# ඒ අමා නිවන් දුටු අරහත් තෙරණිවරු

# 1-59

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද දවසේ මේ ආරම්භ වෙන්නෙ උතුම් ධර්ම දේශනා මාලාවක්. ඒ අමා නිවන් දුටු අරහත් තෙරණිවරු නමින්. ථෙර ථෙරී ගාථා පොත් වහන්සේගේ අපි මේ දේශනා මාලාවක් විදියට රහතන් වහන්සේලා වදාළ ගාථා ඒ අමා නිවන් දුටු රහතන් වහන්සේලා නමින් ඉගෙන ගත්තා. දැන් අද සිට ආරම්භ වෙන්නෙ ඛුද්දක නිකායේ ථෙර ථෙරී ගාථා පොත් වහන්සේගේ ථෙරී ගාථා. අරහත් උත්තමාවියන් වදාළ ගාථා, ඒ අමා නිවන් දුටු අරහත් තෙරණිවරු නමින්. මේ දේශනාව සඳහා ආරම්භක දේශනාවේ විකාශන දායකත්වය දරන්නෙ මීට වර්ෂයට පෙර මියපරලොව යන්නට යෙදුනු පින්වත් අනුලා දිසානායක මැණියන්ට පින් අනුමෝදනා පිණිස පින්වත් පවිත්‍රා ලියනගේ, රන්දිමා ලියනගේ, හිමාලි ලියනගේ යන දියණිවරුන් සහ ඒ

බැණාවරුනුත්, මිණිපිරියන් ඇතුලු පවුලේ හැම දෙනා විසිනුයි අද දවසේ දේශනාවට දායකත්වය දරන්නෙ. සම්බුද්ධ ශාසනයේ අමා නිවනේ සැනසුනු කාන්තාවෝ, සම්බුද්ධ ශාසනය තුළ අමා නිවනේ සැනසීම පිණිස පින තිබූ කාන්තාවෝ ගැනයි අපි ඉගෙන ගන්නෙ. බුදුරජාණන් වහන්සේ ස්ත්‍රීන්ගේ ස්වභාවය, සාමාන්‍යයෙන් ස්ත්‍රීන්ගේ ස්වභාවය ගැන එක අවස්ථාවක දේශනා කලා. ස්ත්‍රිය කෙබඳු ස්වභාවයකින් යුක්තද කියන කාරණය, එක බ්‍රාහ්මණයෙකු අහපු ප්‍රශ්නයකට උත්තර විදියට බුදුරජාණන් වහන්සේ ඒ ගැන වදාළා. ඒ මෙහෙම, ඒ බමුණා භාග්‍යවතුන් වහන්සේගේන් ඇහුවා ඉත්ථී පන බෝ ගෝතම කිං අධිප්පායො, භවත් ගෞතමයන් වහන්ස, ස්ත්‍රීන් කොයි වගේ අදහස් ඇති උදවියද. භාග්‍යවතුන් වහන්සේ වදාළා, ඉථී කො බ්‍රාහ්මණ, පුරිසාදිප්පායා, බ්‍රාහ්මණය ස්ත්‍රීන්ගේ අදහස පිහිටන්නේ පුරුෂයන් ලැබීම සම්බන්ධයෙන්. සාමාන්‍යයෙන් ස්ත්‍රීන්ගේ අදහස කුමක් උදෙසාද පිහිටන්නෙ, පුරුෂයෝ ලැබීම සම්බන්ධයෙන්. එතකොට අහනවා, ඉත්ථී පන කො ගොතම කිං උපවිචාරා, භවත් ගෞතමයන් වහන්ස, ස්ත්‍රීන් මොනවද සාමාන්‍යයෙන් හොයන්නෙ? ඉත්ථී කො බ්‍රාහ්මණ අලංකාර උපවිචාරා, බ්‍රාහ්මණය ස්ත්‍රිය සාමාන්‍යයෙන් හොයන්නෙ අලංකාරය, හැඩවීම. හැඩවෙන්න ස්ත්‍රීන් හරී කැමැතියි. පුරුෂයන් ලැබීමේ අදහස ඇති ස්ත්‍රීය පුරුෂයන් ආකර්ෂණය කරගැනීම පිණිස හැඩවෙන්න ආසයි. කොහොමත් ස්ත්‍රිය කියලා කියන්නෙ අලංකාරයට කැමැති කෙනෙක්. පුරුෂයාට වඩා ස්ත්‍රිය අලංකාරයට කැමැතියි. ඒක බොහොම ප්‍රකට කාරණාවක්නෙ. පුරුෂයො වගේ නෙවෙයි ස්ත්‍රීන් හැඩට ඉන්න, ලස්සනට ඉන්න, සැරසිලා ඉන්න ආසයි. ඉත්ථී පන බො ගෝතම කිං අධිට්ඨානං, භවත් ගෞතමයන් වහන්ස, ස්ත්‍රියට මොන වගේ ප්‍රාර්ථනාද තියෙන්නෙ? බුදුරජාණන් වහන්සේ වදාළා, ඉත්ථී කො පන බ්‍රාහ්මණ පුත්ථ අධිට්ඨානං, බ්‍රාහ්මණය ස්ත්‍රිය පුත්‍රයෝ අධිෂ්ටාන කරනවා. පුත්‍රයෝ ප්‍රාර්ථනා කරනවා, පුතුන් පතන එක තමයි ස්ත්‍රියගේ ප්‍රාර්ථනාව. දරුවො පැතීම, ඉත්ථී පන බො ගොතම, කිං අභිනිවේසා, භවත් ගෞතමයන් වහන්ස ස්ත්‍රිය ජීවිතයේ කුමකට නැමිලාද ඉන්නෙ, ඉත්ථී කො බ්‍රාහ්මණ, අසත්පත්ති අභිනිවේසා, බ්‍රාහ්මණය ස්ත්‍රිය ගෘහයේ දෙවෙනි අධිපතිනියක් නැතිව තමා අධිපතිනියව සිටීමට නැමුනු සිත් ඇත්තීය. ස්ත්‍රියගේ හිත නැවිලා තිබ්බෙ යම් නිවසක තමන් අධිපතිනිය වෙලා ඉන්න දෙවැන්නියක් නැතිව. ඒක තමයි කියනවා ස්ත්‍රියකගේ හිත නැමුණු තැන. ඉත්ථී බො පන ගෝතම, කිං පරියෝසානං, අනේ භවත් ගෞතමයන් වහන්ස ස්ත්‍රිය සාමාන්‍යයෙන් අවසාන ඉලක්කය කරගෙන

ඉන්නෙ මොකක්ද, ස්ත්‍රියගේ ජීවිතේ අන්තිම ඉලක්කෙ? බුදුරජාණන් වහන්සේ වදාළා, ඉත්ථී බො බ්‍රාහ්මණ, ඉස්සරිය පරියොසානා ති, බ්‍රාහ්මණය, ස්ත්‍රිය ඉසුරු සම්පත් අවසාන ඉලක්කය කොට ඇත්තේය. ස්ත්‍රීන් ඉසුරු සම්පත්, ධනවත් වීම, පොහොසත් වීම, ආන්න ඒක තමයි ස්ත්‍රියගේ අවසාන ඉලක්කය. එතකොට බලන්න සංසාර ගමනක යන මේ සත්වයා ස්ත්‍රී ජීවිතය ලබනකොට, ඒ ස්ත්‍රී ජීවිතයේ සාමාන්‍ය ස්වභාවය, සියල්ල දන්නා සියල්ල දක්නා භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ වදාළා ස්ත්‍රී ජීවිතයක සාමාන්‍ය ස්වභාවය. සාමාන්‍යයෙන් ස්ත්‍රියෝ පුරුෂයෝ ලබන අදහසින් යුක්තයි. සාමාන්‍යයෙන් ස්ත්‍රියෝ අලංකාරය තමයි හොය හොය ඉන්නෙ. සාමාන්‍යයෙන් ස්ත්‍රියෝ පැතුම කරගෙන ඉන්නෙ පුත්තු ලැබීම, සාමාන්‍යයෙන් ස්ත්‍රීන් මේ ගෘහයේ දෙවැන්නියක් නැතිව තමන් තනිවම අධිපති වීම ගැනයි නැමුනු හිත් ඇතිව ඉන්නෙ. ස්ත්‍රියගේ අවසාන ඉලක්කය සාමාන්‍යයෙන් ගත්තොත් ඇය ප්‍රාර්ථනා කරන්නෙ ඉසුරු සම්පත්, ධනවත් වෙන එක, සැපවත් වෙන එක, සැපට ඉන්න එක. එතකොට සාමාන්‍යයෙන් පින්වතුනේ සංසාර ගමනක යනකොට ස්ත්‍රී ජීවිතය ලබද්දි හැටි මේක. නමුත් ලොව්තුරු භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ නමකගේ සරණ ලබනවා කියන එකේ ආශ්චර්යයී එබඳු ස්වභාවයෙන් යුක්ත ස්ත්‍රීනුත් සම්බුද්ධ ශාසනයකට යොමු වෙලා ඒ සම්බුද්ධ ශාසනය තුළ පැවිද්ද ලබලා, ලෝකෝත්තර දේවල් හොයලා, අමා මහ නිවනින් සැනසුනානෙ, ආශ්චර්යයීයක්. ලාමක පැතුම් ඇති අයත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ කියන මහා සත්පුරුෂ රත්නය ළඟ උත්කෘෂ්ට ප්‍රාර්ථනා ඇතිකරගෙන නිවනේ සැනසුනා. ඒක හරි ලස්සනට ප්‍රකට වෙනවා මේ ස්ත්‍රීන්ගේ පැවිද්ද ගැන අපි කතා කරනකොට. මේ කත්තිය කියන සූත්‍ර දේශනාවේදී ඒ බ්‍රාහ්මණයා තමයි භාග්‍යවතුන් වහන්සේගෙන් ඒ විස්තරය ඇහැව්වෙ. ඒ බ්‍රාහ්මණයා ඇසූ නිසා තමයි සාමාන්‍ය ස්ත්‍රී ස්වභාවයේ තියෙන ගතිය අපිට දැනගන්න ලැබුනේ සියල්ල දන්නා, සියල්ල දක්නා ලෝකය අතැඹුලක් සේ අවබෝධ කොට වදාළ බුදුරජාණන් වහන්සේගෙන්. කරුණු යෙදුනු කල්හි ශාස්තෘන් වහන්සේ ඒ කාරණය වදාළා. ඉතින් එබඳු ස්වභාවයකින් යුක්ත ස්ත්‍රීන් නිවනක් පසක් කරගන්න යොමුවෙච්චි හැටි අද මේ ආරම්භක දේශනාවෙන් අපි ඉගෙන ගන්නවා, ඒක සිද්ධ වුනේ මෙහෙම. ශ්‍රී සම්බුද්ධත්වය සාක්ෂාත් කරලා හරියටම අවුරුද්දක් ගතවෙනකොට අපගේ මහා කාරුණික බුදුරජාණන් වහන්සේ ශාක්‍යයන්ට සෙත් සැළසීම පිණිස කපිලවස්තුවට වැඩම කලා විසිදහසක් මහා සංඝරත්නය පිරිවරාගෙන. එහිදී භාග්‍යවතුන් වහන්සේ

ශාක්‍යයන්ව ආශ්චර්යයීමත් පෙළහර සහිතව දමනය කලා. බුදුවරුන්ට විතරක් විෂය වූ යමක මහා ප්‍රාතිහාර්ය පවා එදා අපගේ ශාස්තෲන් වහන්සේ එහිදී සිදු කලා. එදා යමා මහ පෙළහර ප්‍රාතිහාර්යයෙන් දමනය කළ ශාක්‍යයන්ට භාග්‍යවතුන් වහන්සේ දහම් දෙසුවා. ඒ ධර්ම දේශනාව අවසන් වෙනකොට ශුද්ධෝදන කියන පියරජ්ජුරුවො අනාගාමී ඵලය සාක්ෂාත් කලා. අනාගාමී ශ්‍රාවකයෙක් බවට පත්වුනා. මහා ප්‍රජාපතී බිසෝ තොමෝ භාග්‍යවතුන් වහන්සේ ගිහි කාලයේ හදාවඩා ගත්ත කිරිපෙවූ මෑණියන්, මහා ප්‍රජාපතී ගෞතමී තුමිය සෝවාන් ඵලය සාක්ෂාත් කලා. පින්වතුනි මේක ආශ්චර්යයීයක්. ඒ කියන්නෙ රජවරු ගත්තොත් එහෙම රජවරුන්ට තියෙන්නේ හැමතිස්සෙම තමන්ගේ බල පරාක්‍රමය වැඩි කරගන්න සිතූ සිතුම් පැතුම්. රාජ මාන්නය, රාජ උඩඟුකම, තවත් රජෙකුට දෙවෙනි වෙන්නැතිව ඉන්න එක, අනිත් අයව පාලනය කරන එක. මේවා තමයි රජෙකුගේ සිතුවිලි. ගොඩාක් ධනවත් වෙන එක. එහෙව් රජවරු අනාගාමී වුනා, බුදුරජාණන් වහන්සේ බණ කියද්දි. ස්ත්‍රියගේ සාමාන්‍යයෙන් තියෙන කල්පනා රටාව වෙනම එකක්. එබඳු ස්ත්‍රීන් ධර්මය අවබෝධ කලා භාග්‍යවතුන් වහන්සේ දහම් දෙසද්දි, මෙය බුදුරදුන්ගේ ආශ්චර්යයීයකි. ඒක ආශ්චර්යයීයක් බව භාග්‍යවතුන් වහන්සේම දේශනා කලා, දුතිය තතාගත අච්චරිය සූත්‍රයේදී. ඒකෙ වදාළා මෙහෙම. මහණෙනි සාමාන්‍යයෙන් ලෝක ප්‍රජාව තෘෂ්ණාව තුළ වාසය කරන තෘෂ්ණාව තුළ ඇලුණු, තෘෂ්ණාවෙන් සතුටු වෙමින් ඉන්න පිරිසක්. මේ සත්වයෝ තෘෂ්ණාවට ආසයි. තෘෂ්ණාවෙන් සතුටු වෙනවා. තෘෂ්ණාවෙම ඇලී ඉන්නවා. තෘෂ්ණාවේ ඇලී ඉන්න සත්වයාට තථාගත බුදුරජාණන් වහන්සේ දහම් දෙසන්න ආරම්භ කරනකොට ඒ සත්වයෝ තෘෂ්ණාව අතහරිනවා. බුදුරජාණන් වහන්සේගේ බණ පද අහන්න ඕන කියලා කැමැති වෙනවා. සවන් යොමා අහනවා, ඔවුන් ධර්මය අවබෝධ කරනවා. මෙය තථාගත ආශ්චර්යයීයකි. දෙවැනි ආශ්චර්යයීය නම් මහණෙනි, සාමාන්‍ය ලෝක ප්‍රජාව මාන්නය ඇසුරු කොට සිටියි. ඒ මාන්නය ඇසුරු කර සිටින සත්වයෝ බුදු බණ පද ඇහෙනකොට මාන්නය අත්හැර ධර්මය අසයි. එය තථාගත ආශ්චර්යයීයකි. මහණෙනි මේ සත්වයෝ නොසන්සිඳීම ඇසුරු කොට වාසය කරයි. රාග ද්වේෂ මෝහ ආදී කෙලෙස් වලින් නොසන්සිඳිලා පිස්සුවෙන් ඉන්න මේ ලෝක සත්වයා කැමැතියි. එහෙව් ලෝක සත්වයාට සම්බුදුරජාණන් වහන්සේ බණ කියනවා ඇහෙද්දි - තථාගත ආශ්චර්යයීය - ඒ බණ අහන්න ඕන කියලා යොමුවෙනවා. ධර්මය අවබෝධ කරනවා. ඒ තුන්වෙනි ආශ්චර්යයීය. මහණෙනි මේ සත්වයා අවිද්‍යාව ඇසුරු

කොට වසන්නේය. අවිද්‍යාවේ ඇලී වසන්නේය. අවිද්‍යාවෙන් සතුටු වන්නේය. එබඳු සත්වයාට බුදුරදුන් බණ කියනා කල්හි තථාගත ආශ්චර්යයක් ලෙස ඒ සත්වයෝ දහම් අසන්න යොමු වී ඒ දහම් අවබෝධ කරයි. ඒ තමයි තථාගත ආශ්චර්යය හතර. ඒ තථාගත ආශ්චර්ය හතර නිසා තමයි පින්වතුනේ බුදුරජාණන් වහන්සේ දහම් දෙසනකොට පින් තිබ්බ අය. හැබැයි මේකට යොමු වුනේ පින් තිබුනු අය. පින තිබ්බ අය තෘෂ්ණාව අතහැරියා, මාන්නක්කාරකම අතහැරියා, නොසන්සිඳීම අතහැරියා, අවිද්‍යාව අතහැරියා, ධර්මය අවබෝධ කලා. ඉතින් ඒ විදියට තමයි සුද්ධෝදන රජ්ජුරුවෝ අනාගාමී වුනා, මහාප්‍රජාපතී ගෞතමී තුමිය සෝතාපන්න වුනා. තව බොහෝ දෙනෙක් ධර්මය අවබෝධ කලා. ඊටපස්සෙ කාලෙකට පස්සෙ අපේ සුද්ධෝදන මහරජ්ජුරුවෝ ගිහි වස්ත්‍ර ඇතිවම අර්හත්වයට පත්වෙලා සුදු සේසත යටදී පිරිනිවන් පෑවා, සුද්ධෝදන මහරහතන් වහන්සේ. ඒ මහරහතන් වහන්සේ පින්වතුනේ අර්හත්වය පසක් කලේ ගිහි වස්ත්‍ර පිටින්ම සිවුරක් දැරුවෙ නෑ, ගිහි වස්ත්‍ර පිටින්ම අර්හත්වය පසක් කරලා එහෙම්මම පිරිනිවන් පෑවා. ඉතින් ඒ පිරිනිවන් පෑම සිද්ධ වුනාට පස්සෙ මහ ප්‍රජාපතී ගෞතමී තුමියට ගිහි වාසය එපා වුනා. ඇයටත් ආසාවක් ඇති වුනා අනේ මටත් සම්බුද්ධ ශාසනයේ කසාවත දරාගන්න ඇත්නම්. කෙස් කළඹ ඉවත් කරලා ආභරණ ඉවත් කරලා කසාවතක් දරාගන්න ඇත්නම් කියලා ස්ත්‍රියකට හිතුනා. අලංකාරය හොයන ස්ත්‍රියට අලංකාරය අත්හරින්න හිතුවා. කෙස් සරස සරසා සතුටු වෙන ස්ත්‍රිය කෙස් ටික ඉවත් කරන්න හිතුවා. නොයෙක් ඇඳුම් ආයිත්තම් වලින් නොයෙක් නොයෙක් මෝස්තර වලින් ගත සරසන ස්ත්‍රිය කසාවතින් ගත සරසා ගන්න හිතුවා. ආභරණ පළඳ පළඳා කැඩපත ඉස්සරහා සතුටු වෙන ස්ත්‍රිය ආභරණ ඉවත් කරගන්න ඕන කියලා හිතුවා. සුවඳ විලේපන වලින් ගත සුවඳවත් කරගන්නා ස්ත්‍රිය ඒ සියල්ල බැහැර කරගන්න ඕන කියලා හිතුවා. මහා ප්‍රජාපතී ගෞතමී තුමිය භාග්‍යවතුන් වහන්සේ කපිලවස්තුවේ නිග්‍රෝධාරාමයේ වැඩ ඉන්නකොට බුදුරජාණන් වහන්සේ ළඟට ගිහිල්ලා කියනවා ස්වාමීනී මේ බුද්ධ ශාසනයේ ස්ත්‍රියක් පැවිද්ද ලබනවා නම් කොච්චර හොඳද. භාග්‍යවතුන් වහන්සේ වදාළා ගෞතමිය ඔය ඇති, ඔය හොඳටෝම ඇති. දහම් පද අහලා ධර්මය පුරුදු කරගෙන ගිහි ගෙදර හිටපුවාම ඇති. ස්ත්‍රියට නම් මේ ශාසනයේ පැවිදි වෙන්න හිත් නොවේවා. බුදුරජාණන් වහන්සේ එහෙම වදාළා. එතකොට ප්‍රජාපතී ගෞතමිය දෙවෙනි වතාවෙත් කියනවා අනේ ස්වාමීනී, ස්ත්‍රියත් ශාසනයේ පැවිදි වෙනවානම්. බුදුරජාණන්

වහන්සේ වදාළා, ගෞතමිය, ස්ත්‍රියට ඔය ඇති. ස්ත්‍රියට ශාසනයේ පැවිදි වෙන්න හිත් නොවේවා. බුදුරජාණන් වහන්සේ තුන් වතාවෙම ප්‍රතික්ෂේප කලා, ඉතින් මහාප්‍රජාපතී ගෞතමී බිසව අඬ අඬා කඳුළු පිරුණු මුහුණින් භාග්‍යවතුන් වහන්සේට වන්දනා කරලා නික්මුණා. ඔය සිද්ධිය සිද්ධ වෙලා කාලෙකට පස්සෙ හටගත්තා ශාක්‍ය කෝලීය පිරිස අතරේ මහා ඥාති කෝලහාලය. ඒක ප්‍රසිද්ධ පින්වතුනි ඥාති කෝලහාලය කියලානෙ. ඒ ඥාති කෝලහාලය පටන් ගත්තෙ රෝහිණී නදියේ වතුර ටික බෙදාගන්න. වතුර ටිකක් බෙදාගන්න අවසානයේ මහා යුද්ධයකට කරුණු යෙදුනා. ශාක්‍ය රජවරු එක පැත්තකින් සේනා සන්නද්ධව පැමිණියා. කෝලීය රජවරු අනිත් පැත්තෙන් සේනා සන්නද්ධව පැමිණුනා. දැන් අවි ආයුධ අරගෙන වතුර ඩිංගිත්තක් වෙනුවෙන් ලේ හලාගන්න ලැහැස්තිය. මහා කාරුණික බුදුරජාණන් වහන්සේ එය දැකලා, බුදුරජාණන් වහන්සේ එහි වැඩම කොට එදා ශ්‍රී සද්ධර්මය දේශනා කලා. සුත්ත නිපාතයේ සඳහන් වෙනවා භාග්‍යවතුන් වහන්සේ බොහෝ දේශනා ගණනාවක් අත්ථදණ්ඩ සූත්‍රය ආදී දේශනා ගණනාවක් එදා වදාළා. ඒ ධර්ම දේශනා අහනකොට ශාක්‍ය කෝලිය මහා යුද්ධය සංසිඳුනා. බුදුරජාණන් වහන්සේ ගැන ශාක්‍ය කෝලි දෙපාර්ශ්වයම තව තවත් පැහැදුනා. ඒ ප්‍රසාදයෙන් භාග්‍යවතුන් වහන්සේ සම්මුඛයේ ශාක්‍ය කුමාරවරු දෙසිය පනහකුත්, කෝලිය කුමාරවරු දෙසිය පනහකුත් ගෘහ බන්ධන අත්හැරලා දාලා මහණ වුනා. ඒ මහණ වෙනකොට ඒ හැම කුමාරයෙකුටම එක්කො පෙම්වතියක් හිටියා, එක්කො බිරිඳක් හිටියා. දැන් ඇලව අත්හැරලා දාලා මේ ගොල්ලො මහණ වුනාම අර ශාක්‍ය කෝලීය කුමාරිකාවන්ද තමන්ගේ ස්වාමිපුරුෂයන්, තමන්ගේ පෙම්වතුන් අහිමි වීම දරාගන්න බැරිවුනා. ඇලත් කල්පනා කලා අපිත් එහෙනම් මහණ වෙනවා. අපිත් අපේ පුරුෂයෝ ගියපු පාරෙම යනවා. ඇලගේ හිත පැවිද්දට නැමුනා. එතකොට මහාප්‍රජාපතී ගෞතමී තුමිය කල්පනා කලා දැන් යලිත් තථාගතයන් වහන්සේගෙන් බුද්ධ ශාසනයේ පැවිද්ද ඉල්ලන්න සුදුසු කාලෙ පැමිණිලා. මේ වෙනකොට ශාස්තෘන් වහන්සේ ශ්‍රී සම්බෝධිය සාක්ෂාත් කරලා වර්ෂ පහක් ගතවී තිබුනා. මහාප්‍රජාපතී ගෞතමියත් අර පන්සීයක් කුල කාන්තාවොත් ලස්සන වස්ත්‍ර අත්හැරියා. කසාවත් පොරවා ගත්තා. දිග කේශ කලාප කපලා දැම්මා. මුඩු හිසක් ඇති කරගත්තා. ආභරණ ආයිත්තම් ඔක්කොම ගැලෙව්වා. ගලවලා මේ පන්සීයක් දෙනා මහාප්‍රජාපතී ගෞතමිය පෙරටු කරගෙන පැවිදි වෙස් අරගෙන මේ පන්සීයක් දෙනා බුදුරජාණන් වහන්සේව හොයාගෙන පා ගමනින් පිටත්

වුනා කපිලවස්තුවේ ඉඳලා. කපිලවස්තුවේ ඉඳලා බුදුරජාණන් වහන්සේ හොයාගෙන ඒ ගොල්ලො ගියා, සැවැත් නුවරට. සෑහෙන දුරක් පින්වතුනි, සෑහෙන දුරක්. දඹදිව වන්දනා කරන්න ගියපු පින්වතුන්ලා දන්නවා මහා දුරක් ගෙවාගෙන යොදුන් ගාණක් ගෙවාගෙන යන්න ඕන. ඉතින් මේ සුකුමාල ස්ත්‍රීන් රාජ කන්‍යාවන්, රාජකීය ස්ත්‍රීන් කකුල් පැලෙනකම් පා ගමනින් ඇවිද්දා. සැවැත්නුවර ජේතවනාරාමයට එනවා භාග්‍යවතුන් වහන්සේ බැහැ දකින්න. අනේ බුදුරජාණන් වහන්සේ සැවැත් නුවර නෑ. භාග්‍යවතුන් වහන්සේ සැවැත් නුවරින් වැඩම කරලා විශාලාවට. ආපහු හැරුනා. පා ගමනින්ම මේ පන්සීයක් දෙනා විශාලා මහනුවරට යනවා. ඉතින් විශාලා මහනුවරට ඇලා පැමිණි දවස බිනර පුස පසළොස්වක පුන් පොහෝ දිනයයි. බිනර පොහොය දවසේ තමයි ඇලා විශාලාවට පැමිණුනේ. විශාලාවට පැමිණිලා විශාලාවේ එළියෙ කොටසේ ආරාමයට ඇතුලු වෙන්නෙ නැතිව වාඩිවෙලා දොරටුවෙන් බැහැර කොටුවේ අඬ අඬා ඉන්නවා. ඒ අඬන්නෙ ඇයි පැවිද්ද නොලැබුනු නිසා. පන්සීයක් දෙනා දුක්බර මුහුණින් ඉන්නවා. ප්‍රජාපතී ගෞතමිය අඬනවා. ආනන්ද තෙරුන් වහන්සේ, අපේ බුදුරජාණන් වහන්සේගේ අග්‍ර උපස්ථායක වෙච්චි, ආනන්ද තෙරුන් වහන්සේ දකිනවා ප්‍රජාපතී ගෞතමී තුමිය හඬමින් ඉන්නවා. ආනන්ද තෙරුන් වහන්සේ කියන්නෙ ඥාතිනෙ. ආනන්ද තෙරුන් වහන්සේ මේ ප්‍රජාපතී ගෞතමියගෙන් අහනවා, කිම ගෞතමියෙනි ඔබ මොකක් නිසාද මේ දුකට පත්වෙලා හඬමින් ඉන්නෙ. අනේ ස්වාමීනී ආනන්දයන් වහන්ස, භාග්‍යවතුන් වහන්සේ මේ බුද්ධ ශාසනයේ අනගාරිකාවන්ට අවසර දෙන්නෙ නැනෙ. අනගාරිකා කියලා කිව්වෙ ගිහි ජීවිතය අත්හල තැනැත්තියන්ට. අනගාරික කියනවා, ගෘහ ජීවිතය අත්හළ තැනැත්තන්ට. ගිහි ජීවිතය අත්හල තැනැත්තියන්ට කියන්නෙ අනගාරිකා. ගෘහ බන්ධනය අත්හැරලා බුද්ධ ශාසනයේ පැවිද්දට අනේ ස්ත්‍රීන්ට අවසර දෙන් නැනෙ කිව්වා. එතකොට ආනන්ද ස්වාමීන් වහන්සේ කියනවා, එහෙනම් ගෞතමියනි, ඔබ ඔහොම ඉන්න මම බුදුරජාණන් වහන්සේට ආයාචනා කරන්නම්. ස්ත්‍රියට මේ බුද්ධ ශාසනයේ පැවිද්ද ලැබෙන්නේ යම් සේද, මං ඒ විදියට ආයාචනා කරන්නම්. ඉතින් බොහෝම සතුටු වුනා, ප්‍රජාපතී ගෞතමිය, ආනන්ද ස්වාමීන් වහන්සේ භාග්‍යවතුන් වහන්සේ සමීපයට ගිහිල්ලා මේ කාරණය සැළ කරනවා. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, අනගාරිකා පැවිද්දට අවසර නොදෙන සේකැයි කියමින් මහාප්‍රජාපතී ගෞතමිය බොහෝ දුකට පත්වෙලා හඬ හඬා දොරටු කොටුවෙන් බැහැරව සිටිනවා ස්වාමීනී. ඇලා බොහෝ දුරක් ගෙවාගෙන

ඇවිල්ලා කකුල් ඉදිමිලා, ඇතැම් අයගේ කකුල් පැලී ලේ ගලනවා. ස්වාමීනී ඇලා දුකට පත්ව සිටිනවා, අනගාරිකා පැවිද්ද නොලැබීම ගැන. ස්වාමීනී තථාගතයන් වහන්සේ විසින් වදාරන ලද මේ ධර්ම විනයේ ස්ත්‍රියටත් ගිහි ගෙයින් නික්මී ලබන අනගාරිකා පැවිද්ද ලැබෙනවා නම් යහපති. භාග්‍යවතුන් වහන්සේ වදාළා ආනන්දයෙනි, ඔය ඇති. තථාගතයන් වහන්සේ වදාරන ලද ධර්ම විනයේ ස්ත්‍රියට ගිහිගෙයින් නික්මී ලබන අනගාරික පැවිද්දට සිත් නොවේවා. ඒ සඳහා වෑයම් කිරීම පිණිස ඔබට රුචි නොවේවා කිව්වා. එතකොට ආනන්ද ස්වාමීන් වහන්සේ තුන් වතාවක් දක්වා අහනවා. ඒක පින්වතුනි මේ බුද්ධ ශාසනයේ තිබුනු විශේෂ ක්‍රමයක්, තුන් වතාවක් දක්වා ඇසීම. ශාස්තෲන් වහන්සේ යම් කරුණක් තුන් වතාවක් ප්‍රතික්ෂේප කලා කියන්නෙ ප්‍රතික්ෂේප කලාම තමයි. ඉතින් තුන් වතාවෙම බුදුරජාණන් වහන්සේ කරුණ ප්‍රතික්ෂේප කලා. එතකොට ආනන්ද ස්වාමීන් වහන්සේ කල්පනා කරනවා භාග්‍යවතුන් වහන්සේ ස්ත්‍රියට පැවිද්ද ලබදෙන්නේ යම් අයුරකින්ද, ඒ ආකාරයෙන් මං බුදුරජාණන් වහන්සේට ආයාචනා කරන්න ඕන, වෙනස් ක්‍රමයකින්. එතකොට ආනන්ද ස්වාමීන් වහන්සේ කියන්නෙ නුවණැතියිනෙ. ආනන්ද ස්වාමීන් වහන්සේ වෙනස්ම ක්‍රමයකට භාග්‍යවතුන් වහන්සේට මේ කාරණය පැවසුවා. ඒ මෙහෙම. ස්වාමීනී, තථාගතයන් වහන්සේ විසින් දේශනා කරන ලද මේ ධර්ම විනයෙහි ගිහිගෙයින් නික්ම අනගාරික පැවිද්ද ලැබුවොත් යම් භික්ෂුණියක්, යම් ස්ත්‍රියක් ඇයට සෝවාන් වෙන්න බැරිද. ස්ත්‍රියට සකදාගාමී වෙන්න බැරිද, ස්ත්‍රිය පැවිදි වුනොත් එහෙම අනාගාමී වෙන්න බැරිද. ස්ත්‍රිය පැවිදි වුනොත් රහත් වෙන්න බැරිද කියලා ඇහුවා. ස්ත්‍රියක් මේ බුද්ධ ශාසනයේ පැවිදි වුනොත් ඈට මගඵල ලබන්න බැරිද කියලා ඇහුවා නිවන් මග වඩන්න. අප ශාස්තෲන් වහන්සේ වනාහි මහා ධර්ම ගෞරවයකින් යුතු ශාස්තෲන් වහන්සේ, ධර්මය ගුරු තන්හි තබාගත් ශාස්තෲන් වහන්සේ, ධර්මය හෘදය කොට ගෙන වාසය කරන ශාස්තෲන් වහන්සේ, ඒ බුදුරජාණන් වහන්සේ අප්‍රමාණ දහම් ගෞරවයකින් යුක්තව අපේ ආනන්ද ස්වාමීන් වහන්සේට කියනවා, ආනන්දයෙනි තථාගතයන් වහන්සේ වදාරන ලද මේ ශ්‍රී සද්ධර්මය තුළ යම් ස්ත්‍රියක් ගිහි ගෙයින් නික්මී අනගාරිකව පැවිද්ද ලබන්නේද ඇය සෝවාන් ද වෙයි, ඇය සකදාගාමී ද වෙයි, ඇය අනාගාමී ද වෙයි, ඇය අර්හත් ඵලයද සාක්ෂාත් කරන්නීය. ඉදින් ස්වාමීනී තථාගතයන් වහන්සේ වදාරන ලද ධර්ම විනයෙහි යම් ස්ත්‍රියක් අනගාරිකව පැවිදි වෙනවා නම්, ඇයට මාර්ග ඵල ලබන්නටත් පුලුවන් නම් අනේ ස්වාමීනී,

මහා ප්‍රජාපතී ගෞතමිය භාග්‍යවතුන් වහන්සේට බොහෝ උපකාර කළ කෙනෙක්. භාග්‍යවතුන් වහන්සේගේ ගිහි කළ සුළු මෑණියන්ය. අත් පා වැඩුවාය, පෝෂණය කලාය, භාග්‍යවතුන් වහන්සේගේ මව් කළුරිය කල කල්හි බෝසතාණන් වහන්සේට කිරි පෙව්වේ ඇයයි. ස්වාමීනී, තථාගතයන් වහන්සේ අනගාරිකා පැවිද්දට අවසර ලබාදෙන සේක්වා. ස්ත්‍රියක් ගිහිගෙයින් නික්මී මේ බුද්ධ ශාසනයේ පැවිදි වේවා කියලා ආනන්ද ස්වාමීන් වහන්සේ වෙනම ක්‍රමයකින් ආයාචනා කලා. එතකොට භාග්‍යවතුන් වහන්සේ වදාළා, එසේ නම් ආනන්දයෙනි, ඔබ ගිහින් මහාප්‍රජාපතී ගෞතමියට මෙන්න මේ අෂ්ට ගරු ධර්ම පවසන්න. ඇය ඒ අෂ්ට ගරු ධර්ම පිළිගන්නේ නම් එයම ඇයට උපසම්පදාව වේවා. මොනවද අෂ්ට ගරු අෂ්ට ධර්ම? උපසම්පදාවෙන් සියවසක් ගෙවූ භික්ෂුණිය විසිනුත් එදිනම උපසම්පදා වූ භික්ෂුවට වන්දනා කිරීම, දැක හුනස්නෙන් නැගිටීම, ඇඟිලි බැඳ වන්දනා කිරීම, යහපත් වත්පිළිවෙත් ඉටු කිරීම යන මේ සත්කාර, ගරු කිරීම් බුහුමන් කිරීම් දිවි ඇති තෙක්ම සිද්ධ කරන්නට ඕන. ඒ කියන්නෙ භික්ෂුණියක් උපසම්පදා වෙලා ගොඩාක් කල් ගතවෙන්න පුලුවන්. ඇය හැටවස් සපිරෙන්න පුලුවන්. නමුත් ඇයත් එදා පැවිදි වෙලා එදාම උපසම්පදා වෙච්චි භික්ෂුවට වන්දනා කරන්න ඕන. ඒක තමයි පළවෙනි ගරු ධර්මය. භික්ෂුණිය හැමකල්හි භික්ෂුවට ගරු සත්කාර දක්වමින්ම සිටින්න ඕන කියන කාරණය. පළවෙනි ගරු ධර්මය. දෙවෙනි ගරු ධර්මය, භික්ෂුණිය විසින් අවවාද දෙන භික්ෂුවක් නැති ආවාසයෙහි වස් නොවැළඳිය යුත්තීය. ඒ කාලෙ භික්ෂුණීන්ට නිතර නිතර භික්ෂූන්ගේ අවවාද ලබන්න ඕන. භික්ෂූන්ගේ අවවාද අනුශාසනා යටතේ තමයි භික්ෂුණිය ඒ පැවිද්ද ගත කරන්නෙ. එතකොට වස් එළඹෙද්දි භික්ෂුණීන් භික්ෂුවක් නැති ආවාසයේ වස් එළඹෙන්න බෑ, ඒක තමයි දෙවෙනි ගරු ධර්මය. භික්ෂුණීන් අඩ මසක් පාසා භික්ෂු සංඝයා විසින් ධර්මයන් දෙකක් ලැබිය යුතුය. එනම් පොහොය කිරීම ගැන ඇසීමත්, අවවාද ලැබීමට එළඹීමත්ය. මෙය භික්ෂුණීන්ගේ තුන්වෙනි ගරු ධර්මයයි. වස් වැසූ භික්ෂුණිය විසින් භික්ෂු, භික්ෂුණී උභය සංඝයා කෙරෙහි තම පිරිසිදු බව ගැන තුන් තැනකින් පැවරිය යුත්තේය දැකීමෙන්, ඇසීමෙන්, සැක කිරීමෙන්. භික්ෂුණිය පවාරණය කළ යුත්තේ උභය සංඝයා ඉදිරියේ. උභය සංඝයා, මෙන්න මේ කාරණය පැහැදිලි කරගත යුතු එකක්. ඇතැම්හු කියනවානෙ භික්ෂු ශාසනය, භික්ෂුණී ශාසනය කියලා. එහෙම කතාවක් නෑ පින්වතුනි, ඒක සම්පූර්ණ වැරදි එකක්. තියෙන්නෙ බුද්ධ ශාසනය. තථාගත අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ

බුදු සසුන. ඒ බුද්ධ ශාසනයේ භික්ෂු සංඝයා ඉන්නවා, භික්ෂුණී සංඝයා ඉන්නවා. මේ භික්ෂු, භික්ෂුණී සංඝයා දෙපාර්ශවයටම කියනවා උභතො සංඝයා. ඒ උභතො සංඝයා ඉදිරියේ තමයි භික්ෂුණිය පවාරණය කළ යුත්තෙ. බරපතල ඇවතකට පත් භික්ෂුණීන් විසින් භික්ෂු, භික්ෂුණී උභය සංඝයා කෙරෙහි පක්ෂව මානත් පිරිය යුත්තීය. මේක උපසම්පදාවට අදාළ එකක්. භික්ෂුණිය මානත් පුරන්නත් ඕන උභතො සංඝයා ඉස්සරහ. දෙවසරක් සයධර්මයක භික්මුණු ශික්ෂා ඇති සික්ඛමානාව විසින් භික්ෂු භික්ෂුණී උභය සංඝයා කෙරෙහි උපසම්පදාව සෙවිය යුත්තීය. එතකොට මේ භික්ෂුණියක් පැවිද්දට පත්වුනාට පස්සෙ එහෙම නැත්නම් ස්ත්‍රිය පැවිද්දට පත්වුනාට පස්සෙ අනිවාර්යයෙන් වර්ෂ දෙකක් ඉන්න ඕන, උපසම්පදාව ලැබීම පිණිස සික්ඛමානාවක් විදියට. උපසම්පදාවේ භික්මීමෙන්, උපසම්පදා සීලය පුරුදු වෙන කෙනෙක් විදියට අවුරුදු දෙකක් ඉන්න ඕන උපසම්පදාව ලබන්න කලින්. ඒකත් ගරු ධර්මයක්. ආනන්දයෙනි අද සිට භික්ෂුණීන් හට භික්ෂූන් කෙරෙහි අවවාද අනුශාසනා දීම ආදිය වැසුණේය. භික්ෂුණීන් හට භික්ෂුණීන් කෙරෙහි අවවාද අනුශාසනා දීම ආදිය නොවැසුණේය. ඒ කියන්නෙ භික්ෂුණීන්ට බෑ භික්ෂූන්ට අවවාද කරන්න. හැබැයි භික්ෂූන්ට පුලුවන් භික්ෂුණීන්ට අවවාද කරන්න. මේ තමයි අෂ්ට ගරු ධර්ම. මේ අෂ්ට ගරු ධර්ම ප්‍රජාපතී ගෞතමිය විසින් පිළිගන්නවා නම් එයම ඇයට උපසම්පදාව වේවා කිව්වා. එතකොට අපේ ආනන්ද ස්වාමීන් වහන්සේ අෂ්ට ගරු ධර්ම ප්‍රජාපතී ගෞතමියට කියනවා. කිව්වහම ප්‍රජාපතී ගෞතමිය බලන්න භාරගත්ත විදිය. ස්වාමීනී, ආනන්දයන් වහන්ස, සැරසෙනු කැමැති තරුණ යොවුන් ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් හෝ හිස සෝදා ස්නානය කොට මහනෙල් මාලාවක් හෝ දෑසමන් මල් මාලාවක් හෝ අලුත් මල් මාලාවක් හෝ දෝතින්ම පිළිගෙන උත්තමාංගය වූ සිරස මත තබන්නේ යම් සේද, එසෙයින්ම ස්වාමීනී, දිවිහිමියෙන් නොඉක්මවිය යුතු මේ අෂ්ට ගරු ධර්මයන් මම පිළිගන්නෙමි. මේ අෂ්ට ගරු ධර්ම පිළිගත්තා. දැන් මේ මාන්නය නැති බුද්ධ ශාසනයක් ඇතුලේ දහම් අවවාදයක්, ධර්ම අවබෝධයක් පතන කාන්තාවොනෙ. මාන්නක්කාරය, උඩඟුකම අපි ස්ත්‍රීන්ය කියලා මවාගත්ත මහා මාන්නක්කාරකමක් ඇලාට තිබුන් නෑ, නැත්නම් කල්පනා කරනවානෙ, මේකෙ තියෙන්නෙ පුරුෂාධිපත්‍යයක්. ඇයි කාන්තාවන්ට නිකං දෙවෙනි තැනක්. ඇයි පුරුෂයාටම මුල් තැන දෙන්නෙ. මේ ආකාරයේ මහා උඩඟු මාන්නක්කාර සිතුවිලි සිතුවා නම් ඇලාට පැවිද්ද උපසම්පදාවද නැත. ඉතාම නිරහංකාරව අපේ මහාප්‍රජාපතී ගෞතමී උත්තමාවිය ඒ අෂ්ට ගරු ධර්ම

පිළිගත්තා. අනිත් පන්සීයක් දෙනත් සාදුකාර දීලා අෂ්ට ගරු ධර්ම පිළිගත්තා. ඉතින් ඔය සිදුවීම සිදුවුනේ පින්වත්නි, බිනර පුන් පොහෝ දිනයේ. බිනර පුන් පොහෝ දිනය විශේෂයෙන් භික්ෂුණීන්ට පැවිද්ද ලැබිච්ච, ස්ත්‍රියට පැවිද්ද ලැබිච්ච දිනය විදියට විශේෂයෙන් සැදැහවතුන්ලා සිහිපත් කරන්නෙ ඒ නිසා. බිනර පුන් පොහෝ දිනය. ඉතින් ආනන්ද ස්වාමීන් වහන්සේ භාග්‍යවතුන් වහන්සේ සම්මුඛයට පැමිණිලා මේ කාරණය කියනවා, ස්වාමීනී ප්‍රජාපතී ගෞතමිය පිළිගත්තා. ඈ බොහෝම සතුටින් පිළිගත්තා. භාග්‍යවතුන් වහන්සේ වදාළා, ආනන්දයෙනි තථාගතයන් වහන්සේගේ මේ ධර්ම විනයේ ස්ත්‍රිය පැවිද්ද නොලැබුවා නම් මේ සම්බුදු සසුනට බොහෝ ආයුෂ පවතින්නේය. දහස් වසරක්ම සද්ධර්මය පිහිටන්නේය. අවුරුදු දාහක්ම. එහෙත් ආනන්දයෙනි, දැන් මෙහි ස්ත්‍රිය බුදු සසුනේ පැවිද්ද ලැබූ නිසා දැන් සසුන බොහෝ කල් නොපවතින්නේය. ආනන්දයෙනි දැන් සද්ධර්මය පන්සිය වසරක්ම පවතින්නේය. එය මෙබඳු දෙයකි. බොහෝ ස්ත්‍රීන් ඇති අල්ප පුරුෂයන් ඇති යම් පවුල් වෙත්නම්, ස්ත්‍රීන් ගොඩාක් ඉන්න පුරුෂයො අඩු පවුල් ඉන්නවා නම්, ඒ පවුල් වලට හරි ඉක්මණට හොරු පනිනවා කියනවා. කාන්තාවො ගොඩාක් ඉන්න ගෙවල් වලට රාත්‍රී කාලයේ හොරු පනිනවා කියනවා, හොරුන්ට බය නෑ, මොකද පිරිමියෙක් නෑ කියලා දන්නවා. හොරු පැනලා ඉක්මණින්ම අර ගෙදර තියෙන ඒවා කොල්ල කාගෙන යනවා. ආන්න ඒ වගේ තමයි කියනවා මේ බුද්ධ ශාසනය තුළ ස්ත්‍රිය පැවිද්ද ලැබීම නිසා සම්බුද්ධ ශාසනයේ ආයුෂය අඩු වුනා, කෙටි වුනා. සාරවත් හැල් වී කුඹුරක සේතට්ඨික නම් රෝගය ඇතිවෙයිද, එවිට ඒ සාරවත් කුඹුර බොහෝ කල් නොපවතින්නේ යම් සේ ද - සේතට්ඨිකයි කියලා කියන්නෙ පින්වතුනි වී ඇට බොල් වෙන රෝගයක්. ඒ වී ඇටේ බොල් වෙන රෝගය ආවොත් එහෙම අර කුඹුරේ සාරවත් ගොයම නිස්සාර වෙලා යනවා, සරු අස්වනු ලොකුවට ලබන්න බැරිව යනවා - ඒ වගේ කියනවා භික්ෂුණිය පැවිද්ද ලැබීම. සාරවත් උක් යායක උක් ගස් ඇතුලු රතුවෙන මඤ්ජිට්ඨිකා නම් උක් රෝගයක් වැළදෙයි. උක් යායකට වැළඳිලා තියෙනවා ඒ කාලෙ මඤ්ජිට්ඨිකා කියලා උක් රෝගයක්. ඒ ලෙඩේ වැළඳුනොත් අර උක් ගස් ටික සම්පූර්ණයෙන් අඩාල වෙලා යනවා. අන්න ඒ වගේ මේ ස්ත්‍රිය විසින් බුද්ධ ශාසනයේ පැවිද්දට පත්වුනාද ඒ සසුන බොහෝ කල් නොපවතින්නේය. ආනන්දයෙනි යම් සේ පුරුෂයෙක් මහත් විලක දිය නොබැස යනු පිණිස වේලාසනින්ම නියර බඳින්නේ යම් සේද, එසෙයින්ම මා විසින් වේලාසනින් භික්ෂුණීන් හට දිවි හිමියෙන් නොඉක්මවනු පිණිස අෂ්ට

ගරු ධර්මයෝ පනවනු ලද්දාහුය. බුදුරජාණන් වහන්සේ වදාළා හැබැයි ආනන්දයෙනි, තථාගතයන් වහන්සේ එයට පිළියම් ලෙස අෂ්ට ගරු ධර්ම පැනවීම සිද්ධ කලා මේ භික්ෂුණීන්ට. ඉතින් මේ කාරණය අපි හරියට තෝරා ගතයුතු තැනක්. නැත්නම් මේක බොහෝ දෙනෙක් වරද්දා ගන්න තැනක්. දැන් මේ ස්ත්‍රියගේ පැවිද්දත් එක්ක බුද්ධ ශාසනයේ ආයුෂ පිරිහුනා කියන කාරණය. මේ කාරණය හරි ලස්සනට තේරුවා අපේ නාගසේන මහරහතන් වහන්සේ. මිලිඳු රජ්ජුරුවෝ නාගසේන මහරහතන් වහන්සේගෙන් අහනවා මේ කාරණය. ස්වාමීනී, භාග්‍යවතුන් වහන්සේ එක තැනක වදාරනවා දැන් බුදු සසුන පවතින්නේ පන්සිය වසරක්ම පමණි කියා. ස්වාමීනී, නැවත භාග්‍යවතුන් වහන්සේ පිරිනිවන් මංචකයේදී වදාළා, සුභද්‍රයෙනි මේ භික්ෂූහු යහපත් ලෙස වාසය කරත් නම් ලෝකය රහතුන්ගෙන් හිස් නොවන්නේය කියලා. ස්වාමීනී, නාගසේනයන් වහන්ස, තථාගතයන් වහන්සේ සද්ධර්මය පන්සිය වසරක්ම පවතින්නේ යැයි කියා යම් වචනයක් පැවසුවාද, එය නිවැරදි නම් මනා පිළිවෙතේ භික්ෂූන් වාසය කලොත් ලොව රහතුන්ගෙන් හිස් නොවන්නේය කියලා පැවසූ වචනය බොරුවක් වෙන්න ඕන. ඒ වචනය සත්‍යයක් නම් මේ බුදු සසුන පවතින්නේ අවුරුදු පන්සීයක්ම පමණි කියලා වදාළ කාරණය බොරු වෙන්න ඕන. ස්වාමීනී දැන් ඔබ වහන්සේ සමීපයට උභතෝකෝටියක් පැමිණිලා තියෙනවා, ස්වාමීනී මේක තෝරන්න කිව්වා. එතකොට අපේ නාගසේන මහරහතන් වහන්සේ මෙහෙම වදාළා. මහරජාණෙනි, භාග්‍යවතුන් වහන්සේ විසින් මේ බුදුසසුන පන්සිය වසරක්ම පවතින්නේය වන වචනයක් වදාළ සේක්ද, එය වදාළ කරුණක්මයි. එමෙන්ම සුභද්‍රයෙනි මේ භික්ෂූහු යහපත් ලෙස වාසය කරත්නම් ලෝකය රහතුන්ගෙන් හිස් නොවන්නේය කියලා වචනයක් භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක්ද, එයද වදාරන ලද්දක්මයි. මහරජාණෙනි, භාග්‍යවතුන් වහන්සේගේ ඔය වචනයන් අර්ථ වශයෙනුත් නානත්වයක් ඇත්තේය. අර්ථ විදියටත් ඕක දෙකක්. ප්‍රකාශ වශයෙනුත් නානත්වයක් ඇත්තේය. මේ ශාසන සීමාවය, මේ ප්‍රතිපත්තිය උද්දීපනය කිරීමය යන කරුණ එකිනෙකට දුර වේ. සසුන් සීමාව කියලා කියන්නෙ වෙනම එකක්, ප්‍රතිපත්ති උද්දීපනය කරනවා කියන්නෙ වෙනම එකක් කිව්වා. මහරජාණෙනි යම් සේ අහස පොළොවෙන් දුර වූයේ වෙයිද, නිරය ස්වර්ගයෙන් දුර වූයේ වෙයිද, කුසලය අකුසලයෙන් දුර වූයේ වෙයිද, සැප දුකින් දුර වූයේ වෙයිද එසේම මහරජාණෙනි ඔය කාරණා දෙක බොහෝ දුර තිබේ. ඔය කාරණා දෙක එකට පටලවගෙන වාද කලාට ඒ දෙක ගොඩාක් ඈත

තියෙන්නෙ. එක කාරණයකින් වදාලේ ශාසන සීමාව, අනිකෙන් වදාළේ ප්‍රතිපත්තිය. මහරජාණෙනි ඔබේ මේ ප්‍රශ්න ඇසීම ඒ වුනාට හිස් එකක් නොවේවා. මං දැන් ඔබට මේ කාරණය මේ විදියට පහදලා දෙන්නම්. මහරජාණෙනි, ශාස්තෘන් වහන්සේ භික්ෂුණීන්ගේ පැවිද්ද ලබන මොහොතේ වදාළානේ සද්ධර්මය වසර දහසක් පැවතුනා නමුත් ස්ත්‍රියගේ පැවිද්දත් එක්ක ශාසනය වර්ෂ පන්සීයකට පිරිහුනා කියලා. භාග්‍යවතුන් වහන්සේ මෙය වදාරන ලද්දේ සද්ධර්මයේ අන්තර්දහනය හෝ පවසන සේක්ද, ධර්මාවබෝධ කළ හැකි කාලය ප්‍රතික්ෂේප කළ සේක්ද. මේක වදාරපුවාම බුද්ධ ශාසනයේ සද්ධර්මයේ අන්තර්දහනය ගැනද මේ කිව්වෙ. එහෙම නැත්නම් ධර්මාවබෝධ කරන්න කාලය ප්‍රතික්ෂේප කලාද කියලා ඇහුවා. එහෙම වචනයක් කිව්වද කියලා ඇහුවා. ආනන්දයෙනි එතනින් එහාට නම් ධර්මාවබෝධ කරන්න බෑ කියලා එකක් කිව්වද කියලා ඇහුවා. එතකොට මිලිඳු රජ්ජුරුවො කියනවා නෑ ස්වාමීනී. මහරජාණෙනි ධර්මය අවබෝධ කල හැකි කාලය නැසී යාමත්, ඉතිරි ශාසනය පිහිටන කාලය පිරිසිඳ වැදෑරීමත් මෙහි කොට ඇත්තේය. මහරජාණෙනි, නැසුනු සම්පත් ඇති පුරුෂයෙක් ඉතිරි වූ සියලු භාණ්ඩ මහජනයාට පෙන්වා මෙපමණ බඩු නැසී ගියේය මෙපමණ ඉතිරි වී ඇත්තේ යයි පවසන්නේ යම් සේද, එසෙයින්ම ශාස්තෘන් වහන්සේ ධර්මය අවබෝධ කල හැකි කාලය නැසී යාමක් ඉතිරි වී ඇති කාලයත් මේ කාරණයෙන් වදාරන ලද්දේය. මහරජාණෙනි, භාග්‍යවතුන් වහන්සේ මේ ශාසනය පන්සිය වසරක්ම පවතිනවා කියලා වදාළේ ධර්මාවබෝධ කල හැකි කාල පරාසය පෙන්වලා දෙන්න. ඒ කියන්නෙ පින්වතුනි සම්බුද්ධ ශාසනය වුනත් අනිත්‍යය ධර්මයට යටත් වෙනවානෙ. කාලානුරූපව පරිහානිකර කාරණා ඉස්මතු වෙනවා. එතකොට ධර්මාවබෝධ කරන්න පුලුවන් කාලසීමාවේ අවහිරතා හටගන්නවා. ඒ ගැන තමයි බුදුරජාණන් වහන්සේ මේ වදාළේ. නමුත් සුභද්‍ර කියන පරිබ්‍රාජකයාට භාග්‍යවතුන් වහන්සේ පෙන්වලා දුන්නෙ, ප්‍රතිපත්තිය. යම් කෙළක භික්ෂුවක් සීල, සමාධි, ප්‍රඥා සංඛ්‍යාත නිවන් මග තුල ඉන්නවා නම් ඒ ඉන්න කෙනාට ධර්මය අවබෝධ කරන්න පුලුවන්මයි. ඒකට හේතුව, පාර හරි. හරි පාරෙ හරියට යනවා නම් යන්න පුලුවන්මයි. සීලය හිස් නැත, සමාධිය හිස් නැත, ප්‍රඥාව හිස් නැත, ප්‍රතිපත්තිය හිස් නැත. ඒ ප්‍රතිපත්තිය උද්දීපනය කරන්නයි බුදුරජාණන් වහන්සේ මේ කාරණය වදාළේ. ඒ නිසා මේ නාගසේන මහරහතන් වහන්සේ මෙහි තෝරනවා, මහරජාණෙනි, බුද්ධ ශාසනය තුළ යම්කිසි කෙනෙක් මනාකොට සීල, සමාධි, ප්‍රඥාවේ හික්මෙනවා නම් ඒ

හික්මෙන කෙනාව නිවන කරා අරගෙන යන්න මේ ධර්මය සාරවත්. ඒ ධර්මය ඵල සහිතයි. ධර්මය අවබෝධ කරන්න පුලුවන්, හරියට සීල, සමාධි, ප්‍රඥා වඩනවා නම්. නමුත් සාමාන්‍යයෙන් ශාසනයේ පැවැත්ම බලපුවාම ඒ සසුන් පැවැත්ම තුළ පෙනෙන්න තියෙන කාරණය තමයි ඉතා කෙටි කලකින් සසුනේ ධර්මාවබෝධ කරන්න තියෙන පසුබිම වෙනස් වී යාම. හරියට පොකුණකට වතුර එන උල්පත් තියෙනවා. ඊළඟට පොකුණෙන් වතුර ඉවතට යන ඇලමාර්ග තියෙනවා. යම් කලෙක පොකුණට වතුර එන උල්පත් ටික හිඳිලා ගියොත් එහෙම, ඇලමාර්ගයෙන් වතුර ගමන් කරලා අර පොකුණ හිඳෙනවා. ඒ පොකුණ හිඳුණට පස්සෙ ඒ පොකුණෙ ඵල ප්‍රයෝජන නෑ. අන්න ඒ වගේ යම් කාල සීමාවක් තියෙනවා, උලපත තියෙන කාලසීමාවක්. ඒ කාල සීමාව පෙන්වාදීමක් වගේ තමයි බුදුරජාණන් වහන්සේ වදාළේ. එනමුදු මෙහෙම කාරණයකුත් තියෙනවානෙ, අහසින් වර්ෂාව ඇද හැලුනොත් අහස් ගැබෙන් ඇද හැලෙන වර්ෂාවෙන් අර පොකුණ පිරෙන් නැද්ද. අන්න ඒ වගේ යම් කලෙක භික්ෂූන් භික්ෂුණීන් සීල, සමාධි, ප්‍රඥා මනාකොට වඩනවා නම් හරියට වර්ෂාව ඇදහැලෙනවා වගේ, ඒ අයටත් මේ සම්බුද්ධ ශාසනයේ ධර්මාවබෝධ කරන්න අවකාශ තියෙනවා. ඉතින් මෙහෙම මේ කාරණය තේරුවා, මේ කාරණය තවත් විස්තර වශයෙන් තෝරන්න තවත් කාල වේලා නෑ. මිලිඳු රාජ ප්‍රශ්නය දෙක, පොතේ මේ සටහන් තියෙනවා, මේ විස්තරය. පින්වතුන්ලාට එය කියවගන්න පුලුවන්. ඉතින් ඔය විදියට මහා ප්‍රජාපතී ගෞතමී තුමිය මේ බුද්ධ ශාසනයේ පළමුවෙනි උපසම්පදාලාභී භික්ෂුණිය බවට පත්වුනා. ඇගේ උපසම්පදාව ගරු ධර්ම පිළිගැනීමෙන් ලැබුනේ. ඇය එසේ උපසම්පදා වුනා. පස්සෙ කාලෙක භාග්‍යවතුන් වහන්සේ ඇයට ධර්මය දේශනා කරනකොට බුදුරජාණන් වහන්සේ දහම්පද අහලා ඇය අර්හත්වයට පත්වුනා. ඈත් සමඟම පැවිදි වෙච්චි අනෙක් පන්සීයක් භික්ෂූන් වහන්සේලා නන්දකෝවාද දෙසුම අහලා අර්හත්වයට පත්වුනා. ඒ අර්හත්වය පසක් කරගත්ත උත්තමාවියන් පන්සිය දෙනත් එක්ක තමයි භික්ෂුණී සංඝයා ආරම්භ වුනේ. මේ ගෞතම සසුනේ භික්ෂුණී සංඝයා ඔන්න ඔය විදියට ආරම්භ වුනා. ඒ භික්ෂුණී සංඝයා ආරම්භයත් එක්ක ගොඩාක් කාන්තාවො, ගොඩාක් පින් තියෙන ස්ත්‍රීන් නිකෙලෙස් උත්තමාවියෝ බවට පත්වුනා. ඒ නිකෙලෙස් උත්තමාවියන් අර්හත්වය පසක් කරගෙන ගාථා වදාළා. ඒ ගාථා තමයි ථෙරී ගාථා තුළ අන්තර්ගත වෙන්නෙ. ඒ අර්හත් උත්තමාවියන් සිත දියුණු කරගත්තේ මේ ධර්මයෙන්මයි. ඒ උත්තමාවියන් තම තමන් ගැන කියවෙන මේ ගාථාවන්

හොඳින් අහගෙන ඉන්න. ඇත්තෙන්ම මේ ගාථාවන් ශක්තිමත් දත් තියෙන සිංහ රාජිනියන් කඳුවල් අතර ගල්ලෙන් වල ඉඳගෙන සිංහනාද කරනවා වගේ. ඒ අර්හත් උත්තමාවියන්ගේ පරම පිවිතුරු අදහසුත් සිංහ රාජිනියන්ගේ සිංහ නාද වගේ. ඇයි සිංහරාජිනියෝ කියලා කිව්වෙ පින්වතුනි, තථාගත අර්හත් සම්මා සම්බුද්ධ නම් වූ සිහරජාණන් වහන්සේගේ ශ්‍රාවක දියණියෝ. ඉතින් ඇලා සිංහරාජිනියො නොවේද. ඇලා සිංහරාජිනියෝය. ශක්තියේ ගර්ජනාව ඇලාට තිබේ. ඒ අර්හත් උත්තමාවියො නරන්තී තෙ සීහනාදං බුද්ධාලෝකෙ අනුත්තරාති, බුදුරජාණන් වහන්සේම ලොව අනුත්තර වන සේක කිය කියා ඒ අර්හත් උත්තමාවියන්ද සිංහ නාද කළ සේක්මය. නොයෙක් නම් වලින්, නොයෙක් ගෝත්‍ර වලින් ඒ උත්තමාවියන් හඳුන්වනවා. නොයෙක් සමාපත්ති වලිනුත් යුක්තයි. හැම දුකින්ම නිදහස් වුන ඒ අර්හත් උත්තමාවියන් සැබෑවටම ප්‍රඥාවන්තයි, කම්මැලිකමින් තොරයි. ඒ උත්තමාවියන් අමා නිවනට පත්වුනේ තම තමන් තුළම විදර්ශනා වඩලයි. ඒ අර්හත් තෙරණිවරු තමන් අවබෝධ කල උතුම් ධර්මය ගැන නුවණින් සළකාගෙනමයි මේ උතුම් ගාථාවන් වදාළේ. මේ තමයි පින්වතුනි තෙරණී ගාථා, එහෙම නැත්නම් ථෙරී ගාථා වල නිධානය. ඔය විදියට තමයි මේ ගෞතම ශාසනයේ භික්ෂුණී සංඝයා ආරම්භ වුනේ. ඒ භික්ෂුණීන් වහන්සේලා අතරේ තමයි අර්හත් උත්තමාවියො බිහිවුනේ. ඒ අර්හත් උත්තමාවියො තමයි තමන් නිවී සැනසුන නිවනේ වැඩ හිඳිමින් මේ සුන්දර ගාථාවන් වදාළේ. ඉතින් ඒ අර්හත් උත්තමාවියන්ට නමස්කාර කරමින් අපි ඉදිරි දිනවලදී මේ ථෙරී ගාථා පැහැදිලි කරගනිමු එකින් එක. ඒ අර්හත් උත්තමාවියන් නිවී සැනසුනු අමෘත නිවනේ අපිටත් සැනසෙන්න ලැබේවා, සාදු සාදු සාදු!!!

අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව තුළින් රැස් වූ සියලු පින් සියලු දෙවියෝ අනුමෝදන් වෙත්වා, පින් අනුමෝදන් වන දෙවියෝ දිව්‍ය සැපයෙන් වැඩේවා. ඒ දෙවියෝ අපව ආරක්ෂා කරත්වා. සාදු සාදු සාදු!!! ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන්ව නිදුක් නිරෝගී සුව සැලසේවා. දීර්ඝායුෂ සැලසේවා. මේ ගෞතම ශාසනය තුළම උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්නට ලැබේවා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද දවසේ ධර්ම දානමය පින්කම් සිද්ධ කරන්නේ මීට වර්ෂයකට පෙර මියපරලොව යන්නට යෙදුනු පින්වත් අනුලා දිසානායක මෑණියන්ට පින් අනුමෝදනා පිණිස, ඒ මෑණියන්ට මේ සියලූම පින් අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා,

අනුමෝදන් වෙත්වා. ඒ වගේම මීට වසර 26කට පෙර මියපරලොව ගිය පින්වත් ලියනගේ කමලරත්න පියාණන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. අද දායකත්වය දරන සුපින්වත් හැමදෙනාගේ නමින් මියගිය සියලු ඥාතීන් පින් අනුමෝදන්ව ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා. මේ දුක්ඛිත සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනා සිදු කරන්න. අද මේ දේශනාවට දායකත්වයන් දරනු ලබන පින්වන්ත පවිත්‍රා ලියනගේ, රන්දිමා ලියනගේ, හිමාලි ලියනගේ යන ඒ දියණිවරුන්ටත්, බෑණවරුන්ටත්, මිණිපිරියන් ඇතුළු පවුලේ හැම දෙනාට මේ සියලු පින් පෙත් අනුමෝදන්ව සියලු දෙනාට නිදුක් නිරෝගී සුව සැලසේවා. දීර්ඝායුෂ සම්පත්ති සැලසේවා. පින්වතුන්ලා කරන රැකී රක්ෂා ආදිය ඒ දරු මුණුපුරන්ගේ අධ්‍යාපන කටයුතු ආදිය සර්වප්‍රකාරයෙන් සාර්ථක වෙත්වා. සුවසේ පින් පුරාගන්න, සුවසේ දහම් මඟ දියුණු කරගන්න අවකාශ සැලසෙත්වා. සුපින්වත් ඔබ සෑම සියලු දෙනාට, ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට, ඒ වගේම ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වත් හැමදෙනාට පින් අනුමෝදන්ව සියලු දෙනා හට ගෞතම ශාසනයේ ධර්මාවබෝධ කරන්නට ලැබේවා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝබුද්ධාය!

https://www.youtube.com/watch?v=ynVCAWzPooE

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මාගේ වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද දවසේ ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු මේ උතුම් සද්ධර්ම දේශනාවට දායකත්වයන් එකතු කරන්නේ

මියපරලොව ගිය පින්වත් රංජලී චතුරී සෞම්‍යා යොමාලි බාලචන්ද්‍ර දියණියට සහ පී.පී.අයි බාලචන්ද්‍ර ස්වාමිපුරුෂයාට පින්පෙත් අනුමෝදනා කරන අදහසින්. පින්වත් කේ.වී. ඉන්දිරා රාණි මැණියන් සහෝදරියන් දෙදෙනා, සහෝදරයන් දෙදෙනා, තරුල් පුතණුවන්, තිරුලනී දියණිය සහ ආරධ්‍යා දියණිය යන මේ පින්වතුන්ලා විසින් ඒ තමන්ගේ මියපරලොව යන්නට යෙදුනු ඥාතීන්ට පින්පෙත් අනුමෝදනාව පිණිසයි අද දවසේ ධර්ම දානය සිද්ධ කරන්නෙ. අපි මේ දේශනා මාලාවේදී ඉගෙන ගන්නෙ සම්බුද්ධ ශාසනයක අමා නිවනේ සැනසෙච්චි ඒ මහා පින්වන්තියෝ ගැන. පින්වතුනි ස්ත්‍රිය කියලා කියන්නෙ මොන වගේ ස්වභාවයෙන් යුක්ත පිරිසක් ද කියලා ශාස්තෘන් වහන්සේගේ දේශනා කරපු ධර්මය අපි මීට පෙර දවසේ ඉගෙන ගත්තා. බුදුරජාණන් වහන්සේ මේ ලෝකයේ පහළ වෙනකොට ඒ කාලයේ භාරතීය සමාජ පසුබිම ගත්තහම මූලිකවම සමාජය ප්‍රධාන කොටස් හතරකට බෙදුනා. ඔබ අහලා තියෙනවා බ්‍රාහ්මණ, ක්ෂත්‍රිය, වෛශ්‍ය, ශුද්‍ර කියලා මේ සමාජයේ කොටස් හතරකට, එහෙම නැත්නම් වර්ණ හතරකට - අපි කියනවා වර්ණ භේදය කියලා - වර්ණ හතරකට බෙදී තිබුනා. බ්‍රාහ්මණයෝ උසස්ය, ක්ෂත්‍රියයෝ ඊට පහත්ය, වෛශ්‍යයෝ ඊටත් පහත්ය, ශුද්‍රයෝ ඉතා පහත්ය. ඔහොම තමයි සමාජය බෙදිලා තිබුන විදිය. ඔය සමාජ භේදනයෙහි තවත් එක බෙදීමක් තමයි මොන කුලයක උපන්නත් මොන වර්ණයක උපන්නත් ස්ත්‍රිය හැම කල්හි පහත් තැන තිබ්බා. ස්ත්‍රිය පහත් තැන තිබුවා කියලා කියන්නෙ, ස්ත්‍රියට සමාජයේ කිසිම තැනක් නොදී ස්ත්‍රිය එක කොනකට කොන් කරලා දාපු ස්වභාවයක් ඔය හැම කුලයකම තිබුනා. බ්‍රාහ්මණ ඉගැන්වීම් වල තිබුනා ස්ත්‍රිය හැමකල්හි පුරුෂයා යටතේම සිටිය යුතු සේවිකාවක් බඳුය. ඇය දාසියක් වගේ. ඒ වගේ මට්ටමක් තමයි සමාජය විසින් ඇට දීලා තිබුනෙ. ඇත්තෙන්ම ස්ත්‍රිය කියලා ගත්තහම පුරුෂ රැකවරණයක් යටතේ ඇයට ඉන්න සිදුවෙනවා. ඒක ස්ත්‍රී භාවයේ තියන එකක්. ස්ත්‍රියට පුරුෂයා කියන්නෙ රැකවරණයක්. ස්ත්‍රියට පුරුෂයා කියන්නෙ ශක්තියක්. එතකොට පුරුෂයා යටතේ සැනසිල්ලෙ ඉන්නවට වඩා හිර කිරීමක් ඒ කාලෙ සමාජ භේදනය තුළ තිබුනා. එබඳු සමාජයකට තමයි ලොව්තුරා භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මේ ප්‍රඥාව උපදවන ධර්මය දේශනා කලේ. හැබැයි ඒ දහම දේශනා කරනකොට ධර්මය අහන්නට, ඇසූ ධර්මය නුවණින් කල්පනා කරන්නට, ධර්මයට අනුව ජීවිතය මෙහෙයවගන්න පින් තියෙන මහා පින්වන්ත ස්ත්‍රියෝත් ඒ කාලෙ හිටියා. ඒ ස්ත්‍රීන් ධර්මය තුළට පැමිණිලා, අර සමාජ මිරිකිල්ලෙන් නිදහස් වුනා. ඒ සමාජ

මිරිකිල්ලෙන් ඇය නිදහස් වුනේ, සුවයට පත්වුනේ ධර්මය නිසා. ඇත්තටම පින්වතුනි මේ සංසාරික ගමන යනකොට මේ සංසාර ගමනේ නොයෙක් නොයෙක් ජාති වල නොයෙක් නොයෙක් උපත් වල අපි උපදිනවා. ඒ හැම එකකින්ම අපි මිරිකෙනවා. මිරිකී මිරිකී යන වේදනාවෙන් විඳව විඳව යන පීඩිතව යන මේ සංසාර ගමනින් නිදහස් වෙනවා නම් ධර්මය නිසාමයි. ධර්මය නිසාමයි. ස්ත්‍රියත් ඒ ස්ත්‍රී ජීවිතය තුළ ලැබූ තාඩන පීඩනයන්ගෙන් නිදහස් වෙලා සැනසුම කරා ගියා, ධර්මය නිසා. ඒ සිදුවීම් හරීම ලස්සනයි. මේ ථෙරී ගාථා අටුවාව තුල ඒ සිදුවීම් හරි ලස්සනට විස්තර වෙනවා. මේ තෙරණිවරුන්ගේ ගාථා හැම එකකටම පසුබිමක් තියෙනවා. දැන් බලන්න මේ තෙරණිවරුන්ගේ ගාථාවල ආරම්භය, එක්තරා තෙරණියකගේ ගාථාවක්. ඇයට නාමයක් සඳහන් වෙලා නෑ, සංගීතිකාරක රහතන් වහන්සේලා විසින් ඇයගේ මේ ගාථාවට නාමයක් සඳහන් වෙලා නෑ. නමුත් අටුවාවේ සඳහන් කරනවා තේරිකා කියලා. තේරිකා නම් වූ ස්ත්‍රියක් තමයි මේ අර්හත් උත්තමාවියක් බවට පත්වුනේ. ඒක සිද්ධ වුනේ කෝණාගමන බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පින් පිරූ තැනැත්තියක් තමයි මේ තේරිකා. කෝණාගමන බුද්ධ ශාසනය කියලා කියන්නෙ මේ මහාභද්‍ර කල්පයේ. මේ මහා භද්‍ර කල්පයේම තමයි පින් පූරණය කරන්නට පටන් ගෙන තියෙන්නෙ. එසේ පින් පිරූ ඇය සුගති ලෝක වල සැප විඳිමින් පැමිණිලා මේ බුද්ධ කාලයේ උපන්නා විශාලා නුවර, ඇගේ නම තේරිකා. තරුණ වයසට එනකොට මේ තේරිකාව සුදුසු වූ පවුලක තරුණයෙකුට විවාහ කරලා දුන්නා. විවාහයට පත්වෙලා බිරිඳක් විදියට තමයි ඇයට බුදු බණ අහන්න අවකාශය උදාවුනේ. බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය අහනකොට ඇයට ධර්මය ගැන හිත පහන් වුනා. ඇය දැන් හරීම ආසයි ධර්මයේ හැසිරෙන ජීවිතයට යන්න. ඇය ආශාවෙන් ඉන්නවා පැවිද්ද ලබන්න. හැබැයි පැවිද්ද ලබන්න ඇය කොච්චර ආස වුනත්, ඇය ඉන්නේ ස්වාමිපුරුෂයෙක් යටතේ. ස්වාමිපුරුෂයාගෙන් කොච්චර අවසර පැතුවත් ස්වාමි පුරුෂයා ඇයට අවසර දුන් නෑ. ඇය බොහොම අමාරුවෙන් අවසරයක් ගත්තා, එහෙනම් මට මහණ වෙන්න අවසර ඕන නෑ, ස්වාමි අනේ මට බණ අහන්න යන්න ඉඩදෙන්න. ඒක වළක්වන්න එපා කිව්වා. ඉතින් ස්වාමිපුරුෂයා කරුණාවන්තයි, ඔහු ඇයට බණ අහන්න යෑමේ අවසරය දුන්නා. දැන් තේරිකාව හැමදාම බණ අහන්න යනවා. ආසාවෙන් බණ අහනවා. අහන බණ හොඳට මතක තියාගන්නවා. මතක තියාගන්න ධර්මය ඇය ගෙදර ඇවිල්ලා තමන්ගේ නිවසේ කටයුතු කරන ගමනුත් විමස විමසා තමයි ඉන්නෙ.

ඈ මෙහෙම ධර්ම මනසිකාරයේ ඉන්නකොට දවසක් මෙන්න මෙහෙම සිද්ධියක් වුනා. ඇය එදා කුස්සියට වෙලා ආහාරපාන සකස් කරමින් ඉන්නෙ. ආහාරපාන සකසමින් ඉන්නකොට ලිපේ තද ගින්නක් ඇතිවුනා. ඒ තද ගින්න ඇතිවෙන වෙලාවේ මැල්ලුමක් ඇය සකස් වෙන්න භාජනයක දාලා තිබුනෙ. ඉතින් මැල්ලුමට අවශ්‍ය ප්‍රමාණයටනේ පින්වතුනි ගින්දර ඕන. ගින්න තද වෙච්චි ගමන් මොකද වුනේ මැල්ලුම රොස් වුනා. ඇගේ මැල්ලුම රොස් වෙලා කරවෙලා ගියා. මැල්ලුම රොස් වෙනකොට හරී පුදුමයි විදර්ශනා භාවනා මනසිකාරය තුළ හිටපු ඇට මේ මැල්ලුම රොස් වී යාමේ සටහන හිතට තදට කාවැදුනා. අනිත්‍යය ප්‍රකට වුනා කියනවා, ආශ්චර්‍යයියි. ඇට අනිත්‍යය ප්‍රකට වුනා. මේ අනිත්‍යය වී යෑමේ ස්වභාවය, වෙනස් වී යෑමේ ස්වභාවය, අනිත්‍යය ලක්ෂණය, විපරිණාමයට පත්වෙන ස්වභාවය මේක ඇයට තදට හිතට කාවැදුනානෙ. පින්වතුනි ධර්ම මනසිකාරය කියලා කියන්නෙ ඒ වගේ පුදුම ආශ්චර්‍යයජනක එකක්. මේ හිතක් ඇතුලේ පවත්වන සිතුවිලි අතරේ සත්‍යය සිතුවිලිනේ ධර්මය කියන්නෙ. සත්‍යය හිත හිත ඉන්නකෙනාට සත්‍යය පසක් වෙන වෙලාව කියන්න බෑ. ඇතැම් වෙලාවක ධර්ම මනසිකාරයේ ඉන්න කෙනෙකුට ඇස් දෙකට පේන්න ඕන ගහක කොළයක් ඉදිලා බිම වැටෙන එක. ගහක කොළයක් ඉදිලා බිම වැටෙනවා දකිනකොට අනිත්‍යය සංඥාව ප්‍රකට වෙනවා ධර්ම මනසිකාරය නිසා, දහම් දැනුම නිසා. ඒ නිසා අපගේ ශාස්තෘන් වහන්සේ තමයි මේ ලෝකයට අනිත්‍යය, දුක්ඛ, අනාත්ම කියන ත්‍රිලක්ෂණය ලෝකයේ සත්‍යය වදාළේ. ඒ සත්‍යය කල්පනාවෙන් ඉන්න තේරිකාවට මැල්ලුම රොස් වුනා විතරයි විදර්ශනා ප්‍රඥාව වේගයෙන් වැඩුනා. ඇය අනාගාමී ඵලය සාක්ෂාත් කලා. අනාගාමී ඵලය සාක්ෂාත් කරනකොට මේ කාම බන්ධනයෝ කැඩී බිඳී යනවා. සක්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස, කාමරාග පටිග කියන ඕරම්භාගිය සංයෝජන කැඩී ගියා. දැන් ඇයට කාමය කෙරෙහි අංශු මාත්‍ර හෝ ඇල්මක් නැත. කාමය කෙරෙහි ඇල්මක් නැති ඇය හට ස්වාමිපුරුෂයා සමඟ අඹුසැමියන් ලෙස එක්වෙමින් ගෘහ වාසයක් ගත කළ නොහැකියි. ඈ මේ කාරණය තමන්ගේ ස්වාමිපුරුෂයාට හොඳට පැහැදිලි කලා. මම දැන් ධර්මයේ හිටපු කෙනෙක්, ධර්මය අවබෝධ කරපු කෙනෙක්, මට ගෘහ වාසයේ හිත ඇලෙන් නෑ, ඇගේ කරුණු පැහැදිලි කිරීම පින්වතුනි, විශාරදයි. හේතුව, ධර්මය අවබෝධ කරපු කෙනෙක්. ධර්මය අවබෝධ කරපු ඇය විශාරද විදියට කරුණු පවසනකොට ජීවිතය ගැන විශාරදව කතා කරනකොට පුරුෂයාට ඊට එරෙහි වෙන්න බැරිව ගියා. ඊටපස්සේ ඒ පුරුෂයා ඇයව

පෙරහැරකින් එකතු කරගෙන ගිහිල්ලා මහාප්‍රජාපතී ගෝතමී තෙරණිය සමීපයේ ඇයව පැවිදි කෙරෙව්වා. පැවිද්ද ලබපු තේරිකා භික්ෂුණියව අපේ මහාප්‍රජාපතී ගෞතමී තෙරණිය භාග්‍යවතුන් වහන්සේ සමීපයට කැඳවාගෙන යනවා. ඒ කැඳවාගෙන ගියපු වෙලාවේ බුදුරජාණන් වහන්සේ ඒ භික්ෂුණියට අවවාද පිණිස ගාථාවක් වදාළා. සුඛං සුපාහි තේරෙහිකේ රතවාචෝළේන පාරුතා උපසංතො හිතිරාගෝ සුක්කඩාකංව කුම්භියන්ති. පින්වන්ත භික්ෂුණීන් වහන්ස, පාංශුකූල වස්ත්‍රයෙන් මසාගත්ත සිවුර පොරවාගත්තට පස්සෙ හරීම සැපසේ වාසය කරන්න පුලුවන්. ඔබේ රාගයත් ප්‍රහාණය වෙලා සංසිදිලා ගියේ භාජනයක මැල්ලුමක් රොස් වුනා වගේ. එතකොට බලන්න ශාස්තෘන් වහන්සේ ඇගේ අවබෝධය දැක්කා. ඒ අවබෝධය දැකපු බුදුරජාණන් වහන්සේ එයම මුල් කරගෙන ඇයට මේ ගාථා අර්ථය වදාළා. ඒ භික්ෂුණියට ශාස්තෘන් වහන්සේගේ වචනය තදින් හිතට කාවැදුනා. ඇය නොබෝ කලකින්ම ඒ ගාථාව මුල් කරගෙනම වීර්යය වඩලා නොබෝ කලකින්ම සව් කෙලෙසුන් නැසූ අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. ඒ අර්හත් උත්තමාවිය බවට පත්වුනාට පස්සෙ තමන්ගේ ථෙරී ගාථාව විදියට ඇ වදාළේ මේ ගාථාව. ඉතින් මේ බුද්ධ ශාසනය කියන එක මුණ ගැහීම නිසා තමයි ඒ පින් තිබ්බ කාන්තාවන්ට ඒ සැපය කරා යන්න අවකාශය සැලසුනේ. විපස්සී බුද්ධ ශාසනයේ පින් පිරූ තවත් ස්ත්‍රියක් හිටියා. විපස්සී බුද්ධ ශාසනයේ මීට අනූ එක් කල්පයකට පෙර ලෝකයේ පහළවුනා. ඒ කාලයේ ඇය විපස්සී බුදුරජාණන් වහන්සේගේ ඇසුර ලබන්න වාසනාවන්ත වුනා. විපස්සී බුදුරජාණන් වහන්සේ අභිමුඛයේ නිතර බණ අහලා හරීම සතුටින්, හරීම පහන් සිතින් බුදුරජාණන් වහන්සේට වන්දනා කරනවා. ඒ වන්දනාවෙන් අප්‍රමාණ සතුටක් ලැබුවා. දැන් එක එක අය පින්වතුනි, එක එක පිනෙන්නෙ සතුටු වෙන්නෙ. සමහරු මල් පූජා කරලා සතුටු වෙනාව. සමහරු පහන් දල්වලා සතුටු වෙනවා. සමහරු දානෙ දීලා සතුටු වෙනවා. එක එක්කෙනා එක එක පින්වලට සතුටුයි. ඇතැම් අය සතුටුයි වන්දනා කරලා. එතකොට මැය වන්දනා කර කර සතුටු වෙච්චි කෙනෙක්. බුදුරදුන්ට කරන වන්දනාව ඇගේ සිතේ හැමතිස්සේම සතුට ඉපැද්දුවා. ඇය නිතර විපස්සී බුදුරජාණන් වහන්සේට වන්දනා කර කර හොඳට පින් පිරුවා. ඒ පිරූ පිනෙන් ඇය දෙවියන් අතරේ උපන්නා. ඇය එතකොට දෙවියන් අතරට යන්නෙ කල්ප අනූඑකකට පෙර. අනූ එක් කල්පයකට පෙර දෙවියන් අතරට ගියපු ඇය මේ අනූඑක් කල්පය පුරා යලි දුගතියක නම් ගියේ නෑ. කොහොමද මේ හාස්කම, මේ ආශ්චර්‍යය වෙන්නෙ.

සංසාර ගමන නිරය මහගෙදර කරගෙන යන ගමනක්. ඒ ගමනේ අනූ එක් කල්පයක් සතර අපායේ ගියෙ නෑ කිව්වහම, කොහොමද මේ හාස්කම සිද්ධ වෙන්නෙ. මේක සිද්ධ වෙන්නේ පින්වතුනේ මෙහෙමයි. සත්පුරුෂ ආශ්‍රය නිසා. විපස්සී බුදුරජාණන් වහන්සේ කියන මහා සත්පුරුෂ රත්නය මුණගැහිලා දෙව්ලොව ගියා. දෙව්ලොවදී මුණගැහෙනවා සත්පුරුෂයෙක්. මොකද දෙව්ලොව ඒ දෙවියන් අතර බොහෝ සත්පුරුෂයෝ ඉන්නවා. සත්පුරුෂයාගේ ස්වභාවය තමයි සත්පුරුෂයා කැමැති නෑ තමන් ඇසුරු කරන අය වරදට වැටෙනවාට. තමන් ඇසුරු කරන අය පිරිහෙනවාට සත්පුරුෂයා කැමැති නෑ. ඒ නිසයි භාග්‍යවතුන් වහන්සේ සත්පුරුෂ ආශ්‍රය වර්ණනා කළේ, නිදීනං ව පවත්තාරං යං පස්සී වජ්ජදස්සනං, නිධානයක් පෙන්වා දෙනවා සේ තමාගේ සිත කයේ වචනයේ සිද්ධ වෙන වැරදි අඩුපාඩු පෙන්වාදෙන නිග්ගයිහවාදිං මේධාවිං තාදිසං පණ්ඩිතං භජෙ, ඒ සිද්ධ වෙන වැරදි වලට නිග්‍රහ කර කර දොස් කිය කියා හදාගන්න උදව් කරන පණ්ඩිතයො ඇසුරු කරන්න. තාදිසං භජමානස්ස සෙයයා හොති, එබඳු වූ පණ්ඩිතයෝ ඇසුරු කළොත් යහපතක්ම සිදුවන්නේය. න පාපියො, කවදාවත් ජීවිතයට අයහපතක්, පරිහානියක් සිදු නොවේ. එතකොට මේ පින්වන්ත තැනැත්තියන්ට සිද්ධ වුනේ මොකක්ද, සත්පුරුෂ ආශ්‍රය. ඒක එහෙම තේරුම් ගන්න. නැත්නම් පින් රැස් කරගෙන දෙව්ලොව යාම කියන කතන්දරය ගැන කියද්දි බොහෝ දෙනෙක් නිකන් කල්පනා කරන්නෙ ඇස් දෙකත් එක්ක ලොකු කරගෙන හප්පේ දැන් දෙව්ලොව ගියාට පස්සෙ දෙව්ලොව සැපයට අහුවෙයිද දන්නෙ නෑ, ඒ සැප සම්පත් වලට අහුවෙලා ආයෙ සංසාරෙ දිග්ගැහෙයිද දන්නෑ. මේ වාගේ මහා අමුතු කල්පනානෙ. ඒ වගේ නිකන් පහත් ගණයේ කල්පනා වලට යන්නෙපා. දෙව්ලොව ගියොත් සත්පුරුෂ ඇසුර තියෙනවා. සත්පුරුෂ ඇසුරේ රැකුනොත් ඉහළම රැඳී ඉන්න පුලුවන්, පහළට වැටෙන්නැතිව. ඉහළයි කියලා කිව්වෙ සුගතිය. සුගතියේ රැඳී ඉන්න පුලුවන් හීන වූ සතර අපායේ නොවැටී. මෙන්න මේ කාරණය අර්ථ වශයෙන් තේරුම් ගන්න තරම් ඥාණවන්ත වෙන්න. මේ කාරණය අර්ථ වශයෙන් තේරුම් අරගන්න තරම් අපි අපේ ඥාණය හදාගන්න ඕන. නුවණැති වෙන්න ඕන. ඉතින් මේ විපස්සී බුද්ධ ශාසනයේ පින් පිරූ ඇය ඔය විදියට අනූ එක් කල්පයක්ම සත්පුරුෂ ඇසුරේ පින් පුර පුර, පින් පුර පුර සුගතියේ ලෝක වල ඉපිද ඉපිද ඇවිල්ලා මේ බුද්ධ කාලයේ උපන්නා සැවැත් නුවර. ඇගේ නම් මුක්තා, මුක්තා තරුණිය ඉතාම තරුණ කාලෙ විවාහ ජීවිතයකට එළඹෙන්නත් පෙරම බුදු බණ අහන්න වාසනාවන්ත වුනා. බුදු බණ

අහලා ප්‍රජාපතී ගෞතමිය නිතර නිතර ඇසුරු කරන්න පටන් ගත්තා. අවසානයේ ඇය තමන්ගේ මව්පියන්ගේ අවසරය අරගෙන ප්‍රජාපතී ගෞතමී උත්තමාවිය සමීපයේ පැවිදි වුනා. පැවිදි වෙච්චි මේ මුක්තා තෙරණිය නිතරම ගෞතමී උත්තමාවියගෙන් බණ පද අහගන්නවා. ඒ බණ පද අහනකොට ඇයට වීර්යය ඇතිවුනා. ඈ කල්පනා කලා මේ සංසාර ගමනේ මේ සියලු කෙලෙස් බන්ධනයන්ගෙන් මං හොඳට වීර්යය වඩලා ඉක්මණින්ම නිදහස් වෙන්න ඕන. වීර්යයෙන්මයි මේක කරන්න තියෙන්නෙ. ඈ හොඳට වීර්යය අරගෙන වීර්යයෙන් භාවනා කරනවා. එසේ වීර්යයෙන් භාවනා කරන ඇයව භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ මහා කරුණා නේත්‍රයට හසුවුනා. එතකොට බුදුරජාණන් වහන්සේ ආලෝක ධාරාවක් විහිදලා ඇයට මෙන්න මේ ගාථාව ඇහෙන්න සැලැස්සුවා. මුත්තේ මුත්තස්සුයෝගෙහි චන්දො රාහුග්ගහා ඉව විප්පමුත්තේන චිත්තේන අනනාබුඤ්ජකින්නකං, පින්වත් මුක්තා, මාරයාගේ ග්‍රහණයෙන් ඔයත් ගැලවිලා යන්න ඕන. රාහුගේ ග්‍රහණයෙන් පුන්සඳ මිදිලා යනවා වගේ. කෙලෙස් වලින් නිදහස් වෙලා ගිය සිතින් ණයක් නැතිවයි පිණ්ඩපාතය වළඳන්න ඕන. බුදුරජාණන් වහන්සේගේ ස්වරයෙන් ඇයට අහන්න ලැබෙනවා. හරියට රාහුගේ ග්‍රහණයෙන් පුන්සඳ මිදෙනවා වගේ මාරයාගේ ග්‍රහණයෙන් මිදෙන්න. ණයක් නැතිව පිණ්ඩපාතය වළඳන කෙනෙක් වෙන්න. ඒක ඇහෙනකොට ඇයට සතුටක් උපන්නා. අහෝ මගේ ශාස්තෘන් වහන්සේත් මාව දකිනවා. මම වීර්යය වඩන ආකාරය මගේ බුදුරජාණන් වහන්සේ දකිනවා කියන සතුට උපන්නා. ඒ සන්තෝෂයෙන් ඇයගේ වීර්යය බලවත් වුනා. ඇය සියලු කෙලෙස් නසා අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. මුක්තා අර්හත් තෙරණින් වහන්සේ. තවත් සිදුවීමක් සිදුවුනා පින්වත්නි, ඈත බුද්ධාන්තරයක චන්ද්‍රභාගා කියන නදියේ කිඳුරියක් හිටියා. ඒ කිඳුරී හරී සතුටින් චන්ද්‍රභාගා නදියේ ඒ මේ අත පිහින පිහිනා කෙළිදෙලෙන් ඉන්න මොහොතක ප්‍රසන්න ඉඳුරන් ඇති පසේ බුදුරජාණන් වහන්සේ නමක්ව ඇයට දැකගන්න ලැබුනා. මේ චන්ද්‍රභාගා නදිය අබියසින් පසේ බුදුරජාණන් වහන්සේ නමක් වැඩම කලා. මේ බුද්ධාන්තර අතුරේනෙ මේ පසේ බුදුවරු පහළ වෙන්නෙ. පසේ බුදුරජාණන් වහන්සේලා සම්බන්ධයෙන් විස්තර විභාග සහිත දේශනා මාලාවක්ම මීට පෙර අපි සිද්ධ කලා, පසේ බුදු පෙළහැර නමින්. ඉතින් ඒ පසේ බුදු පෙළහරේදී පසේ බුදුවරුන් ගැන අපි සවිස්තරව කියලා දුන්නා. ඒ පසේ බුදුවරු බුද්ධාන්තර අතරේ තමයි පහළ වෙන්නෙ. බුද්ධාන්තර කියලා කියන්නෙ සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් පහළ වී යළි සම්මා සම්බුදු

රජාණන් වහන්සේ නමක් පහළ වීමට අතර කාලයයි. එය බුද්ධාන්තරයකි. එය අති දීර්ඝ කාලයකි. ඒ අති දීර්ඝ කාලයේ සම්බුදුරජාණන් වහන්සේ නමක්, සම්‍යක් සම්බුදුරජාණන් වහන්සේ නමක් පහළ වෙන්න සමීප කාලයේ පසේ බුදුවරුන්ගේ යුග හටගන්නවා. අන්න ඒ පසේ බුදුවරුන්ගේ යුගයක තමයි මේ ඇය කිඳුරියක් වෙලා ඉඳලා තියෙන්නෙ. පසේ බුදුරජාණන් වහන්සේ නමක්ව දැකලා පැහැදුනා. පැහැදිලා අර නදියේ පිපෙන දියමල්, මොනවාහරි මල් ජාතියක් පිපිලා තිබ්බා, වතුරේ පිපෙන මල් ජාතියක්. ඒ මල් ඇය පසේ බුදුරජාණන් වහන්සේ උදෙසා පූජා කලා. ඔන්න කිඳුරී මරණින් මත්තෙ මනුස්ස ලෝකය, භූමස්ත දිව්‍යලෝකය, චාතුම්මහාරාජිකය මේ සියල්ල ඉක්මවා තව්තිසා දෙව්භවනේ උපන්නා. තව්තිසා දෙව්භවනේ උපන්නා, මල් පිදූ පිනෙන්. ඇය තව්තිසා දෙව්භවනේ උපන්නාට පස්සෙ මොකක්ද සිද්ධ වෙන්නෙ, අර අපි කලින් කියපු දේමයි. සත්පුරුෂ දෙවිවරු ඇසුරු කරන්න ලැබෙනවා, ධර්මය දන්න දෙවිවරු ඇසුරු කරන්න ලැබෙනවා, බණ පද අහන්න ලැබෙනවා, වරදින් වළක්වන උත්තමයො ඇසුරු කරන්න ලැබෙනවා, ඇය බේරුණා. එදා ඉඳලා ඇත් නිරයේ ගියෙ නෑ, සතර අපායෙ ගියෙ නෑ. සුගතියේ ලෝකවලම, දෙව් මිනිස් ලෝකයේම ඉපදි ඉපදි ඇවිල්ලා මේ බුද්ධ කාලයේ සැවැත්නුවරම ඈ උපදිනවා, ඇගේ නම පුණ්ණා. මේ පුණ්ණා තරුණියත් අර හරියට මුක්තා තරුණිය වගේ තමයි. විවාහ ආදියට එළඹෙන්න පෙරම බුදු බණ අහන්න ලැබුනා, අවුරුදු විස්සෙදි මහණ වුනා. විසිහැවිරිදි වියේ තරුණිය මහණ වුනා. හරී ආශ්චර්යයක් ඉතින් බුද්ධ ශාසනයේ පින් තිබ්බ තරුණියෝ, පින් තිබ්බ ස්ත්‍රීන් ඒ අත් හැරලා යන විදිය පින්වතුනි. මොකද ඈලා නිතර සැරසෙන්න ආසා කරන දිගු කේශ කලාපය කපන්න ඕන මහණ වෙද්දි. සමහර විට ඒ කෙස්වැටිය වවාගන්න පුංචි කාලෙ ඉඳලා සාමාන්‍ය තේරෙන කාලෙ ඉඳලා සෑහෙන කාලයක් කෙස් වලට නොයෙක් බෙහෙත් ජාති ආලේප කර කර කෙස් වැටිය සරසගන්න මහන්සි ගන්නෙ ස්ත්‍රීන්. ඒ කෙස් නිතර සුවඳවත් කරනවා, ඒ කෙස් ටික පීර පීරා නොයෙක් කොණ්ඩ මෝස්තර දම දමා සතුටු වෙනවා. ඒ කෙස් කළඹ සම්පූර්ණයෙන් ඉවත් කරනවා මහණ වෙනකොට. සැරසෙන ඇඳුම් ආයිත්තම් ඉවත් කරනවා. ස්ත්‍රීන් නිතර කැමැතියි ආලේපන තවරාගෙන ඉන්න. ආලේපන තැවරීම් සියල්ලෙන්ම ඉවත් වෙනවා. හැඩවීම් සියල්ලෙන්ම ඉවත් වෙනවා. ඉතින් එහෙම ඉවත් වෙන්න තරම් ධර්මාවබෝධයක්, ධර්මය ගැන වැටහීමක් අවුරුදු විස්සෙදි ලැබුනා. විසි හැවිරිදි වියේදී ඈ පැවිදි වෙනවා. පැවිදි වෙලා ඇයත් වීර්යයෙන් යුක්තව ධර්මයේ හැසිරෙන්න මහන්සි ගන්නකොට

සම්බුදු රජුන්ගේ මහාකරුණා නේත්‍රයට හසුවුනා. බුදුරජාණන් වහන්සේගේ මධුර වූ බ්‍රහ්ම ස්වරයෙන් ඇයටත් ගාථාවක් කිව්වා, පින්වත් පුණ්ණා පසළොස්වක පොහෝ දවසේ සඳක් වගේ උතුම් ගුණධර්ම වලින්ම ජීවිතේ පුරවගන්න ඕන. ප්‍රඥාව සම්පූර්ණ කරගෙන මේ අවිද්‍යා අන්ධකාරය පලාදමන්න. එතකොට බුදුරජාණන් වහන්සේ ඔය අර්ථය වදාළා. පසළොස්වක දවසේ හඳ යනු, සියලු කලාවන්ගෙන් පිරුණු හදමඬලයි. ඒ හඳ ආයෙ පිරෙනවා කියලා එකක් නෑ. ඒක පිරෙන්න ඕන උපරිමේටම පිරිලා. පසළොස්වක පෝය දවසට පායන හඳ මුළුමනින්ම පිරිලා. අපි ඒකට කියනවා පූර්ණ චන්ද්‍රයා, පිරුණු හඳ. පිරුණු හඳක් වගේ සියලු ගුණදහම් වලින් ජීවිතය පුරවගන්න. මේ ජීවිතය පුරවාගෙන ප්‍රඥාව සම්පූර්ණ කරගෙන අවිද්‍යාව කියන ඝනාන්ධකාරය පලලා දාන්න. බුදුරජාණන් වහන්සේගේ මධුර ස්වරය ඇහෙනකොට ඇටත් බලවත් ප්‍රීතියක් හටගත්තා. ඒ පුණ්ණා තෙරණියට සතුටක් උපන්නා, ශාස්තෘන් වහන්සේ මගේ වීර්යය දකිනවා. මං වීර්යයෙන් ධර්මයේ හැසිරෙන්න මහන්සි ගන්න බව මගේ ශාස්තෘන් වහන්සේ දකිනවා. මං තව වීර්යය වඩන්න ඕන. ඇය බලවත්ව වීර්යය වැඩුවා. නොබෝ කලකින්ම අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. තිස්සා නම් තෙරණියකුත් මේ බුද්ධ ශාසනයේ පැවිදි වුනා. ඒ තිස්සා තෙරණියගේ පැවිද්ද මොකක්ද, ඇයත් පින්වතුනි පෙර ජාති වල බොහෝම පින් කරගත්ත කෙනෙක්, ඇය උපන්නේ කපිලවස්තුවේ. මේ ජීවිතේ කපිලවස්තුවේ ඉපදිලා අර කපිලවස්තුවේ ශාක්‍ය කෝලිය යුද්ධයේ පසුබිම හැදෙනකොට ඇය බුද්ධ ශාසනයේ මහණ වෙච්චි ඒ කුමාරවරු පන්සිය දෙනාගෙන් කාත් එක්ක හරි හාදකමක් පටන් ගෙන හිටියේ, ඒ කාලෙ. එතකොට ඇව අත්හැරලා දාලා ඒ තමන් හාදවෙලා හිටපු පුරුෂයා මහණ වුනානෙ. ඒ මහණ වුනාට පස්සෙ මහාප්‍රජාපතී ගෞතමියත් එක්ක බුද්ධ ශාසනයේ පැවිද්ද පතාගෙන පන්සීයක් නික්මුණාද ඒ නික්මිච්චි අය අතරේ තමයි මේ තිස්සාවත් හිටියේ. මුල්ම පැවිදි පන්සීයක් වූ භික්ෂුණීන්, ඒ පන්සීයක් භික්ෂුණීන් එක්ක තමයි ඇයත් පැමිණුනේ. ඒ පැමිණිලා ඇය වීර්යයෙන් දහම දියුණු කරන්න මහන්සි ගත්තා. එහෙම ධර්මය දියුණු කරන්න මහන්සි ගන්නකොට ඇය උදෙසාත් භාග්‍යවතුන් වහන්සේ ගාථාවක් වදාළා. බුදුරජාණන් වහන්සේ - මේ කරුණු කාරණා ඉගෙන ගන්නකොට අපිට පේනවා - භාග්‍යවතුන් වහන්සේ බොහෝ උපකාර කරලා තියෙනවා වීර්යයෙන් හැසිරෙන භික්ෂුණීන්ට පවා ඉක්මණනින් ධර්මය පසක් කරගන්න භාග්‍යවතුන් වහන්සේ පෞද්ගලිකව උදව් උපකාර කරලා තියෙනවා. දැන් මේවා සිද්ධවෙන්නෙ පින්වතුනි, ඒ භික්ෂුණිය තනිපංගලමේ

වීර්යය වඩනකොට බුදුරජාණන් වහන්සේ ස්වරය විහිදුවනවා. බුදුරදුන්ගේ ගම්භීර බ්‍රහ්මස්වරය ඒ බ්‍රහ්මස්වරයෙන් බණ අහන්න සතුටු වූ පිරිසට අහන්න ලැබෙනකොට බලවත් ප්‍රීතියක් උපදිනවානෙ. අනිත් එක භාග්‍යවතුන් වහන්සේ තමන් උදෙසා ගාථාවක් කියනවා කියලා ඇහිච්චි ගමන්ම සතුටක් උපදිනවා. බුදුරජාණන් වහන්සේ මා දෙස බලාගෙන ඉන්නෙ කියලා. අන්න ඒ බලවත් ප්‍රීතියෙන් තමයි ඉක්මණින් ධර්මය අවබෝධ කළේ, ඒ නිසා භික්ෂුණියටත් බුදුරජාණන් වහන්සේ ගාථාවක් වදාළා. තිස්සේසුකස්සි සික්කාය මාතං යෝගා උපජ්ජතුං සබ්බ යෝග විසංයුත්තා චරලෝකෙ අනාසවා, පින්වත් තිස්සා, සීල සමාධි ප්‍රඥාවේ හික්මෙන්න. මේ දුර්ලභ අවස්ථාව මගහැරගන්න නම් එපා. සියලු බන්ධනයන්ගෙන් නිදහස් වෙන්න. නිකෙලෙස් කෙනෙක් හැටියට මේ ලෝකෙ ජීවත් වෙන්න. ඉතින් ඔය ගාථාව අහන්න ලැබුනට පස්සෙ ඒ තිස්සා භික්ෂුණියට තමන්ගේ තිබුනු වීර්යය ගොඩාක් බලවත් වුනා, ඇය තව තවත් බලවත් වීර්යයකින් යුක්තව ධර්මයට අවධානය යොමු කරගෙන ධර්මයේ හැසිරෙන්න පටන් ගත්තා. ඒ ධර්මයේ හැසිරෙන්න පටන් ගෙන ඇය අර්හත්වයට පත්වෙන්නේ කවර දේශනාවක් අහලාද. ඇය අර්හත්වයට පත්වුනේ පින්වත්නි නන්දක කියන මහරහතන් වහන්සේ වදාළ නන්දකෝවාද කියන ලස්සන ධර්මය අහලා. ඉතින් ඒ ධර්මය අහලා තමයි අර මුලින්ම පැවිදි වෙච්චි පන්සිය නමම අර්හත් උත්තමාවියෝ බවට පත්වුනේ. ඉතින් මෙහි සඳහන් වෙනවා පින්වත්නි, ඒ මුලින්ම පැවිදි වෙච්චි පන්සිය නමගේ ඇතැම් භික්ෂුණීන් ගැන විස්තර කිහිපයක්ම. දැන් අපි ඔය ඉගෙන ගත්තෙ තිස්සා තෙරණියනෙ. තවත් තිස්සා නමින්ම තෙරණියක් ඒ පන්සියක් දෙනා අතරෙම හිටියා. ඒ තිස්සා තෙරණියත් වීර්යයෙන් ධර්මයේ හැසිරෙනකොට බුදුරජාණන් වහන්සේ ඇය උදෙසා ධර්මයක් වදාළා මෙන්න මෙහෙම ගාථාවක්, පින්වත් තිස්සා ධර්මයේම හැසිරෙන්න. මේ දුර්ලභ අවස්ථාව මගහැරගන්න නම් එපා. මේ උතුම් අවස්ථාව මගහැරගත් උදවිය නිරයේ වැටිලා දුක් විඳිනවා. මේ උතුම් අවස්ථාව මගහැර ගන්න එපා කියලා කියන්නෙ, මොන උතුම් අවස්ථාව ද පින්වතුනි? මනුස්ස ජීවිතය ලැබීම සහ බුදුබණ අසන්න ලැබීම කියන දුර්ලභ අවස්ථාව. ඒක දුර්ලභයි, ඒක කොයි වෙලේ අහිමි වෙයිද දන්නෑ. දැන් බලන්න අපිට, අපිට බුදුරජාණන් වහන්සේගේ බණ පද අහන්න ලැබිලා තියෙනවා. බුදුරජාණන් වහන්සේගේ බණ පද අහන්න ලැබිලා තියෙන අපේ මනුස්ස ජීවිතේ අතිශයින්ම අවිනිශ්චිත ජීවිතයක්. මේ තියෙනවා ඊළඟ මොහොතේ මක්වෙයිද කියලා කාටවත් කියන්න බෑ, මේ හොඳට ඉන්නවා. නහරයක්

පිපිරිලා මියගියා කියලා මෙන්න ආරංචි වෙනවා. මේ හොඳට ඉන්නවා අන්න දරුණු ලෙඩක් හැදිලලු කියලා ආරංචි වෙනවා. එච්චර මේ ලෝකෙ මිනිස්සු මේ හොඳට ඉඳලා ඊළඟ මොහොතෙ මැරිලා ගියාද. මේ හොඳට ඉන්නවා. රාත්‍රියේ නින්දට යනවා. රාත්‍රියේ නින්දේම මොකක්හරි ආබාධයක් වෙනවා, නින්දෙදිම මැරිලා යනවා. මරණය ගැන කතා කරන්න ගත්තොත් පින්වතුනි, කෙළවරක් නැතෙ ලෝකෙ මිනිස්සු මැරෙන විදිය. අපිට මරණය සම්බන්ධයෙන් මොකුත් පනවන්න බෑ. මරණය කියන එක ඕනම ඇසිල්ලක එන්න පුලුවන්. ඕනම වයසක එන්න පුලුවන්. ඕනම විදියකින් එන්න පුලුවන්. කොයි වෙලේ මැරෙයිද දන්නෑ, මැරිච්ච ගමන් දුර්ලභ අවස්ථාව ඉවරයි. දුර්ලභ අවස්ථාව අහිමියි, බුදු බණ අහන්න ලැබුනු අවස්ථාව, සංඝයා දැකගන්න ලැබුනු අවස්ථාව, සෑයට බෝධියට සාදු සාදු කියලා වඳින්න ලැබිච්ච අවස්ථාව, සෑයට බෝධියට මල් පුදන්න ලැබිච්ච අවස්ථාව. මේ දෑස් දෙකින් බණ පද කියවන්න ලැබිච්ච අවස්ථාව. ඔක්කොම අහිමි වෙලා යන්නැද්ද, අහිමි වෙනවා. ඒ හින්දයි භාග්‍යවතුන් වහන්සේ වදාළේ තිස්සා මේ දුර්ලභ අවස්ථාව අහිමි වෙන්න නම් දෙන්න එපා. ඒ අහිමි කරගත්තු ඇයෝ නිරයේ ඉපදිලා දුක් විඳිනවා. මෙහෙම කියනකොට ඇලාගේ වීර්යය තව තවත් තව තවත් බලවත් වුනා. ඒ පන්සීයක් භික්ෂුණීන් අතරේ පැවිදි වුනා ධීරා කියලා තෙරණියක්. ධීරා තෙරණියත් වීර්යයෙන් ධර්මයේ හැසිරෙනවා. ඒ ධර්මයේ හැසිරෙනවා දකින භාග්‍යවතුන් වහන්සේ ධීරා තෙරණිය අරමුණු කොට ගාථා වදාරනවා. ධීරේ නිරෝධං පුස්සෙහි සංඥා රූප සමං සුඛං ආරාධයාහි නිබ්බාණං යෝගක්කේමං අනුත්තරං. පින්වත් ධීරා, දුක් නැතිවීම වන නිවනයි ස්පර්ශ කල යුත්තේ. අකුසල් සංඥා සංසිඳීම සැපයක්. ඒ නිසා කෙලෙස් වලින් නිදහස් වූ අනුත්තර නිවනම ලබාගන්න. අකුසල් සංඥා, අකුසල් හටගැනීම සංසිඳිලා යනවා නම් ඒක පුදුමාකාර සැපයක්. ඒ නිසා ඒ කෙලෙස් වලින් නිදහස් වෙච්චි අනුත්තර නිවන, ශ්‍රේෂ්ට නිවන, උතුම් නිවනම ලබාගන්න. එහෙම බුදුරජාණන් වහන්සේ අවවාද කලා. භාග්‍යවතුන් වහන්සේ මෙසේ අවවාද කරනකොට ඒ ධීරා තෙරණියත් තව තවත් තව තවත් වීර්යයෙන් ධර්මයේ හැසිරෙන්න මහන්සි ගත්තා. තවත් භික්ෂුණියක් පැවිදි වුනානේ ඒ පන්සීයක් දෙනා අතරේම පැමිණිලා. ඇගේ නම වීරා. වීරා තෙරණියත් බුදුරජාණන් වහන්සේගේ දහම් අවවාදයක් ලබන්න වාසනාවන්ත වුනා. වීරා වීරේහි ධම්මේහි භික්ඛුනී භාවිතින්ද්‍රියා ධාරේහි අන්තිමං දේහං ජෙත්වා මාරං සවාහිනිං, පින්වත් භික්ෂුණිය වීරා, ශ්‍රද්ධා ආදී ඉන්ද්‍රියන් මහත් වීර්යයෙන් යුක්තව දියුණු

කරගන්න. ධර්මයේම හැසිරෙන්න. සේනා සහිත මාරයාව පරාජයට පත් කරලා අවසාන සිරුර විතරක් දරාගන්න. මේ ජවිතේම අවසාන සිරුර දරාගන්න කිව්වා. අවසාන සිරුර දරාගන්නවා කියන්නෙ මොකක්ද පින්වත්නි. දැන් මේ ජීවිතේ අපිට ශරීර කූඩුවක් ලැබිලා තියෙනවානෙ. තාම මේක නම් අපේ අන්තිම සිරුර නොවේ. මේ ජීවිතේ මලාට පස්සෙ අපිට මොකක්හරි සිරුරකට යන්න සිද්ධ වෙනවා. පව් කරලා තිබුනොත් තිරිසන් සිරුරු අතරට රිංගන්න වෙයි. එක්කො නිර සතෙක්ගේ සිරුරකට රිංගන්න වෙයි. ඒ කියන්නෙ නිර සතෙක් විදියට උපදියි. එක්කො පෙරේත දණ්ඩෙක් වෙයි. එක්කො භූතයෙක් වෙයි. පින් කරලා තිබ්බොත් නම් දෙවියන්, බඹුන් අතරේ උපතක් කරලා යාගන්න පුලුවන් වෙයි. අන්තිම සිරුර දරනවා කියන්නෙ පහන් සිලක් නිවී යන්නා සේ පිරිනිවෙනවා කියන එකයි. ඉතින් මේ භික්ෂුණීන්ට, දැන් මේ බලන්න මේතන පින්වතුනි, තිස්සා නමින් තෙරණීන් වහන්සේලා දෙනමක් වැඩ හිටියා, ධීරා, වීරා කියන තෙරණීවරු, මේ හැමෝටම බුදුරජාණන් වහන්සේ වීර්යය ඉපැද්දුවා. වීර්යයෙන් හොඳට හිත පිහිටුවගෙන ධර්මයේ හැසිරෙමින් හිටපු ඇලාටයි නන්දකෝවාද සූත්‍රය අහන්න ලැබුනෙ. මේ භික්ෂුණීන් වහන්සේලා අර්හත් උත්තමාවියො බවට පත්වුනා. අර්හත් තෙරණීන් බවට පත්වුනා. ඒ අර්හත් තෙරණීවරුන් අතරෙ මේ වීරා තෙරණීය සම්බන්ධයෙන් තියෙනවා විස්තරයක්. සංයුක්ත නිකායේ වීරා සූත්‍රය. මේ වීරා තෙරණීන් වහන්සේ එක කාලයක වැඩ හිඳලා තියෙනවා රජගහනුවර. භාග්‍යවතුන් වහන්සේත් ඒ කාලෙ වැඩ හිටියේ රජගහනුවර වේළුවනාරාමයේ. වීරා භික්ෂුණීන් වහන්සේට එක උපාසකයෙක් සිවුරක් පූජා කලා. ඒ සිවුර පූජා කරනකොට ඒ සිවුර පිළිගන්න වෙලාවේ යක්ෂයෙක් ඕක බලාගෙන හිටියා. ඒ යක්ෂයා වීරා තෙරණීයගේ අභ්‍යන්තර ජීවිතය දකිනවනෙ. ඇය නිකෙලෙස් උත්තමාවියක්. ඇගේ අභ්‍යන්තරයේ කිසිදු කෙලෙස් කසටයක් නෑ, සුදෝවන් වස්ත්‍රයක් වගේ පාරිශුද්ධ සන්තාණයක්. යක්ෂයාගේ හිත හරී සතුටු වුනා. ඊටපස්සෙ ඒ යක්ෂයා වීරා භික්ෂුණීයගේ ගුණ කිය කියා ගියා කියනවා, ඔය රජගහනුවර හන්දියක් හන්දියක් ගානෙ වීරා භික්ෂුණීයගේ ගුණ කිව්වා. ඒ ගුණ කියන්නෙ කොහොමද, ඒ යක්ෂයා මිනිස් වෙස් අරගෙන ගුණ කියනවා. මිනිස්සු අතරෙ මේ කතාව ප්‍රකට කරනවා. ඉතින් වීරා භික්ෂුණීය කියලා කියන්නෙ ගුණරාව ගියපු කෙනෙක්. පුඤ්ඤං වත පසුවි බහුං සප්පඤ්ඤො වාතාය උපාසකො යො ව්‍යායං අදාසි චීවරං සබ්බ යෝගයේහි විප්පමුත්තායාති, හැම කෙලෙස් බන්ධනයකින්ම නිදහස් වෙලා ඉන්න මේ වීරා

භික්ෂුණියට මේ උපාසක තුමා සිවුරක් පූජා කරගත්තා. මේ නුවණැති උපාසකයා අති විශාල පිනක් තමයි මේ අත්කරගත්තෙ. එහෙම යක්ෂයෝ ගුණ කිව්වා. මේ පන්සීයක් භික්ෂුණීන් අතරේ පින්වතුනි තව මහණ වුනා මිත්තා කියලා තෙරණියක්. ඒ මිත්තා තෙරණියටත් බුදුරජාණන් වහන්සේ අවවාද ගාථා වදාළා. පින්වත් මිත්තා ශ්‍රද්ධාවෙන් මහණ වෙච්චි ඔයා කල්‍යාණ මිත්‍රයන්ගේ ආශ්‍රයට කැමැති වෙන්න. උතුම් අර්හත්වය උදෙසාම කුසල් දහම් වඩන්න. ඇයට කිව්වෙ කල්‍යාණ මිත්‍ර ආශ්‍රයටම කැමැති වෙන්න. කැමැති වෙන්න ඕන කල්‍යාණ මිත්‍ර ආශ්‍රයටමයි. ඒ තුළින්මයි ජීවිතයට සැප උපදින්නෙ. භද්‍රා කියලා තෙරණියක් පැවිදි වුනා, ඇයටත් බුදුරජාණන් වහන්සේ අවවාද කලා මෙහෙම. පින්වත් භද්‍රා, ශ්‍රද්ධාවෙන්මයි ඔයත් මහණ වුනේ. ඉතින් ඔයත් ඒ භද්‍ර වූ සුන්දර වූ ධර්මයේ ඇලී වසන්න. උතුම් අර්හත්වයට මේ කුසල් නම් බෝධි පාක්ෂික ධර්මයන් වඩන්න. ඇගේ නම් භද්‍රා නිසා බුදුරජාණන් වහන්සේ ඒ නමත් එකතු කරගෙන තමයි ඇයට ගාථා වදාලේ, භද්‍රේ භද්‍රලතා භව, භද්‍රාවෙනි භද්‍ර වූ ධර්මයට ඇලී වසන්න. භද්‍ර කියලා කියන්නෙ සුන්දර. සුන්දර තැනැත්තිය සුන්දර වූ ධර්මයේ ඇලී වසන්න. උතුම් අර්හත්වය උදෙසා සත්තිස් බෝධි පාක්ෂික ධර්ම කියන කුසල් වඩන්න. උපසමා කියලා තෙරණියකුත් පින්වතුනේ අර පන්සීයක් භික්ෂුණීන් අතරේම පැවිදිවුනා. ඇයටත් බුදුරදුන්ගේ අවවාද ලැබුනා. පින්වත් උපසමා, මේ මාරයාගේ රාජධානියෙන් මිදෙන්න අතිශයින්ම දුෂ්කරයි. කොහොමහරි සසර සැඩ පහරින් එතෙර වෙන්න. සේනා සහිත මාරයාව පරදවලා දාන්න, අවසාන සිරුරක් දරන කෙනෙක් වෙන්නෙ. බුදුරජාණන් වහන්සේ එහෙම අවවාද කලා. එතකොට ඒ අවවාද ලබාගත්ත භික්ෂුණීන් වහන්සේලා ඔක්කොම වීර්යයෙන් ධර්මයේ හැසිරෙන්න පටන් ගත්තා. මිත්තා තෙරණිය, භද්‍රා තෙරණිය, උපසමා තෙරණිය වීර්යයෙන් ධර්මයේ හැසිරෙනකොට ධර්මය තුළ බලවත්ව හිත පිහිටුවාගෙන ඉන්නකොට තමයි නන්දකෝවාද සූත්‍රය අහන්න ලැබුනෙ. ඒ නන්දකෝවාද සූත්‍රය අසා ඒ උත්තමාවියොත් නිකෙලෙස් රහත් තෙරණිවරුන් බවට පත්වුනා. අද අපි ඉගෙන ගන්න අවසාන ථේරී ගාථාව, මුත්තා තෙරණියගේ ගාථාව. මේ මුත්තා තෙරණියගේ සිදුවීම පින්වතුනි ටිකක් වෙනස්. ඇය පින් පූරණය කරන්න පටන් ගත්තේ පදුමුත්තර බුද්ධ ශාසනයේ. මීට කල්ප ලක්ෂයකට ඈත ඉඳලා ඈ පින් රැස් කරගෙන එන්න පටන් ගත්තෙ. ඉතින් ඇය බොහෝ පින් පුරාගෙන පැමිණිලා මේ බුද්ධ කාලයේ කොසොල් රටේ උපන්නා, ඕඝාතක කියලා දිළිඳු බමුණෙක්ගේ දියණිය වෙලා. බොහෝම දිළිඳු බමුණෙක්. ඒ දිළිඳු බමුණාගේ දුව

වෙලා ඉපදිලා තරුණ වයසේදීම දෙමාපියන්ට සිද්ධ වුනා, ධනය නැතිකම නිසාවෙන් කුදු බමුණෙකුට ඇව විවාහ කරලා දෙන්න සිද්ධ වුනා. ධනය නැති කම නිසා, ණය අරගෙන ඒ ණය පොලී වෙලා දෙමාපියො අසරණ වුනා. ඒ අසරණ වෙලා ඉද්දි ඇව විවාහ කරලා දෙන්න සිද්ධ වුනා ඒ පොළියට හිලව් වෙන්න කුදු බමුණෙකුට. ඇගේ ලස්සන තරුණ වයසේ, ඈ ලස්සන පුරුෂයෙක් පතාගෙන ඉද්දි ඇයට යන්න සිද්ධ වුනේ අවලස්සන කුදු බමුණෙක් එක්ක දීගකන්න සිද්ධ වුනා. තරුණ වයසෙදිම මේ දීගෙත් එක්ක පැටලිලා, නමුත් ඇය ඒ දුක් ඔක්කොම දරාගෙන ස්වාමි භක්තියෙන්ම විවාහ ජීවිතය ගත කලා. ස්වාමි භක්තියෙන් විවාහ ජීවිතය ගත කරපු ඇය, මේ විදියට ජීවිතය ගත කරනකොට ඇට අහන්න ලැබෙනවා, බුදු බණ පද. ඇත්තෙන්ම පින්වතුනි මේවා කියවනකොට අපිට සිහිපත් වෙනවා, මේ ජීවිත වල ඇතැම් පින්වතුන්ලා වුනත් අපෙන් නොයෙක් ප්‍රශ්න අහනකොට තේරෙනවා ජීවිත වල කොච්චර දුක් ගිනි තියෙනවාද, ඒ දුක් ගිනි අස්සේනෙ පින්වතුනි අපිට මේ හිත් නිවන බණ පදයක් අහන්න ලැබෙන්නෙ. එතකොට ඒක ඒ කාලෙ වුනත් එහෙමයි. මිනිස්සු මහා දුක් කන්දරා මැද තමයි බණ අහලා සැනසිලා තියෙන්නෙ. දැන් මේ මුත්තා තෙරණිය කුදු මිනිහෙක් බැඳගෙන, කිසි සැපක් නැති පවුල් ජීවිතේ මේ කුදු මනුස්සයාට ඇප උපස්ථාන කරගෙන බණ අහන්න ගියා. බණ අහද්දි අහද්දි හිත පැහැදුනා. හිත පැහැදිලා ඇය ස්වාමියාගෙන් අවසරය අරගෙන බුද්ධ ශාසනයේ මහණ වුනා. මහණ වෙලා නොබෝ කලකින්ම අර්හත් තෙරණියක් බවට පත්වෙලා ඒ අර්හත් උත්තමාවිය බලන්න වදාළ ගාථාව. මං හැමදේකින්ම මිදිච්චි එකමයි හොඳ. මං තුන් කුදෙන්ම මිදුනා. ඒ කියන්නෙ වංගෙඩියෙනුත් මිදුනා. මෝල්ගහෙනුත් මිදුනා, කුදු ස්වාමියාගෙනුත් මිදුනා. ඉපදෙන මැරෙන ලෝකයෙනුත් මිදුනා. මේ භව රැහැනිනුත්, තෘෂ්ණාවෙනුත් මිදුනා. තුන් කුදෙන්ම මිදුනා කියලා කියන්නෙ, මේ වද විඳ විඳ ජීවත් වෙච්චි වද ටිකෙන් මිදුනා. ඒක තමයි කුදය කියලා හැඳින්වූවෙ. නොයෙක් ආකාරයෙන් වද විඳ විඳ ජීවත් වෙච්චි ජීවිතෙන් ඇය නිදහස් වුනා. ඇය ස්ත්‍රියක් විදියට ඇය බැඳිලා හිටියා මෝල් ගහත් එක්ක, බැඳිලා හිටියා වංගෙඩියත් එක්ක, ඊළඟට බැඳිලා හිටියා බැඳගත්තු මනුස්සයත් එක්ක. ඒ ඔක්කොම නිසා වද විඳ විඳ සැනසිල්ලක් නැතිව ජීවත් වෙච්චි ජීවිතේ අර ප්‍රශ්න ඔක්කෝගෙන්ම, කුදයන් ඔක්කොගෙන්ම නිදහස් වුනා. කුදයන්ගෙන් විතරක් නෙවෙයි නිදහස් වුනේ. සියලු භව බන්ධනයන්ගෙන් නිදහස් වෙලා, සසරෙන් නිදහස් වූ අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. අද අපි මේ දේශනාවේදී අර්හත් උත්තමාවියන්

වහන්සේලා එකොළොස් නමක් ගැන ඉගෙන ගත්තා. ඒ අර්හත් උත්තමාවියන්ට නමස්කාර කරමින් අපි ප්‍රාර්ථනා කරමු ඒ අර්හත් උත්තමාවියන් නිවී සැනසුනු නිවනේ අපිටත් සැනසෙන්න ලැබේවා, සාදු සාදු සාදු!!!

අද දවසේත් මේ උතුම් ධර්ම දේශනාවෙන් රැස් වූ සියලු පුණ්‍ය ධර්මයන් අනුමෝදන් කරමු සියලු දෙවිවරුන්ට. සියලු දෙවියෝ පින් අනුමෝදන්ව දිව්‍ය සැපයෙන් වැඩේවා. ඒ දෙවියෝ අපව ආරක්ෂා කරත්වා, සාදු සාදු සාදු!!! ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට පින් අනුමෝදන්ව නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සැලසේවා, මේ ගෞතම ශාසනය තුළ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කරගන්න යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් 2020 ජූනි මාසයේ දෙවෙනි දින මියපරලොව යන්න පින්වත් අංජලී චතුරි සෞම්‍යා යොමාලි බාලචන්ද්‍ර දියණියට මේ සියලූම පින්පෙත් අනුමෝදන් වෙත්වා. මීට වර්ෂයකට පෙර මියගිය ඒ දියණියට පින් අනුමෝදන් වෙලා ඒ වගේම 2019 මැයි මාසෙ 17 වන දින මියපරලොව ගියපු පී.පී.අයි. බාලචන්ද්‍ර ස්වාමි පුරුෂයාට මේ සියලූම පින් අනුමෝදන් වෙලා ඒ වගේම අද දවසේ මේ ධර්ම දානයසිද්ධ කරන ඒ පින්වතුන්ලාගේ නමින් මියපරලොව යන්න යෙදුනු පින්වත් කේ.ටී. කුංජන පියාණන්ට, සෝමාවතී මානවඩුගේ මෑණියන්ට, චන්ද්‍රා මානවඩුගේ සහෝදරියට, ධර්මපාල මානවඩුගේ සහෝදරයාට, ලක්ෂ්මන් සහෝදරයාට, සෙල්ලයියා සහෝදරයාට, ගාමිණී මිහිඳුකුලසූරිය සහෝදරයාට, පී.පී.අයි. තේනංපන් පියාණන්ට, එමලින් ෆනැන්ඩු මෑණියන්ට, පී.පී.අයි. චන්ද්‍රබෝස් සහෝදරයාට, පී.පී.අයි. සරෝජනී සහෝදරියට, වේලායුදන් සහෝදරයාට සහ රාමක්‍රිෂ්ණන් සහෝදරයාට මේ සියලු පින්පෙත් අනුමෝදන් වෙත්වා. නමින් මියගියා වූ සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන් වෙලා ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපවත් වෙත්වා. අපගේ ඥාතීන් මේ දුක් සහිත වූ සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් පෙත් අනුමෝදනා සිදු කරන්න. ධර්ම දානය සිදු කරන පින්වත් කේ.වී. ඉන්දිරා රාණි මෑණියන්ට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. නිදුක් නිරෝගී සුව දීර්ඝායුෂ සැලසෙත්වා. ඒ වගේම සහෝදරියන් දෙදෙනාටත්, සහෝදරයන් දෙදෙනාටත්, තරුල් පුතණුවන්ට, නිව්රණී දියණියට සහ ආරාධ්‍යා දියණියට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා.

පවුලේ හැමදෙනාට මේ සියලු පින් අනුමෝදන් වෙලා සියලු දෙනාට සියලු යහපත අභිවෘද්ධිය, නිදුක් නිරෝගී සුව සැලසේවා. ඒ දූ දරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදියත්, පින්වතුන්ලා කරන කියන රැකී රක්ෂා ආදියත් සර්වප්‍රකාරයෙන්ම සමෘද්ධිමත් වෙත්වා, දිනෙන් දින දියුණුවට පත්වෙත්වා. කළ්‍යාණ මිත්‍ර ඇසුරේ සුවසේ පින් පුරාගන්න, සුවසේ දහම් මග දියුණු කරගන්න මේ ධර්ම දානයේ පින ඒකාන්තයෙන් ආශිර්වාදයක් වෙත්වා. අද ධර්ම දානය කල ඒ පින්වතුන්ලාටත් ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත් ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ හැමදෙනාටත් සුපින්වත් ඔබ සෑම සියලු දෙනාටත් මේ ගෞතම ශාසනය තුළ සුවසේම චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝබුද්ධාය!

https://www.youtube.com/watch?v=pDcQcKkH4QM

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, ඔස්ට්‍රේලියාවේ පදිංචි පින්වත් චමින්ද සම්පත් මහත්මා සහ නිලීකා ලක්මාලි මහත්මිය ඇතුලු පවුලේ පින්වතුන්ලා විසින් අද දවසේ මේ උතුම් ධර්ම දේශනාවට දායකත්වය දරනු ලබන්නේ. චමින්ද සම්පත් මහතාගේ නමින් මියගිය පින්වත් යමුනා වසන්ති පෙරේරා මෑණියන්ට පින් පෙත් අනුමෝදනා කිරීම මූලික අරමුණ, ප්‍රධාන අරමුණ කරගෙන ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු, ඒ උතුම් සද්ධර්ම දේශනා මාලාවේ අද අපි ඉගෙන ගන්නේ මේ සම්බුද්ධ ශාසනයේ තිලෝගුරු අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක භික්ෂුණීන් වහන්සේලා අතරේ ධර්ම කථික භික්ෂුණියක්, භික්ෂුණීන් අතරේ ධර්ම කථිකත්වයෙන් අග්‍ර

භික්ෂුණිය කවුද, ඒකදග්ගං භික්ඛවෙ මමසාවිකා නං භික්ඛුණීං නං ධම්මකථිකා නං, මහණෙනි මාගේ ශ්‍රාවක වූ භික්ෂුණීන් අතරේ ධර්ම කථික භික්ෂුණිය බවට පත්වෙන්නේ, යදිදං ධම්මදින්නා, මේ ධම්මදින්නාවයි කියලා බුදුරජාණන් වහන්සේ අග තනතුරු ප්‍රදානය කළ භික්ෂුණිය. ඒ ධම්මදින්නා අර්හත් උත්තමාවියගේ ජීවිතයේ, ඒ චරිතාපදානයේ මෙන්න මේ විදියට තමයි අපේ අටුවා පොත් වහන්සේලාගේ අන්තර්ගත වෙන්නෙ. පදුමුත්තර බුද්ධ ශාසනයේ හංසවතී කියන නගරයේ දුගී තැනැත්තියක් විදියට මෑ ඒ කාලෙ උපන්නා. ඒ කාලෙ කිව්වෙ, මීට කල්ප ලක්ෂයකට ඈත. පදුමුත්තර බුදු සසුන කියන්නෙ කල්ප ලක්ෂයකට පෙර. හංසවතියේ සිටුපවුලක දාසියක්. මේ දාසි දවසක් දිය අරගෙන එන්න, කලෙත් අරගෙන නදියට යමින් හිටියා. එසේ නදියට යමින් හිටියදී ඇය දකිනවා ඉතාම ප්‍රසන්න ඉඳුරන් ඇති, සන්සුන් ඉඳුරන් ඇති සුජාත කියන මහරහතන් වහන්සේ පිණ්ඩපාතෙ වඩිනවා. සුජාත රහතන් වහන්සේ පිණ්ඩපාතෙ වඩිනවා දැක්ක ගමන් දාසියගේ සිත පැහැදුනා. චිත්ත ප්‍රසාදය කියන්නෙ පින්වතුනේ, සිත පහදිනවා කියලා කියන්නෙ පිනකට සිද්ධ වෙන එකක්. ඇතැම් කෙනෙකුට ඒ පුණ්‍ය වාසනාව, ඒ භාග්‍යය නැති කෙනාට අවාසනාවන්ත කෙනාට සිත පහදිය යුතු කාරණයේ සිත පහදින් නෑ. අභාග්‍යය, අවාසනාව. අපේ බණ පොත් වල සඳහන් වෙනවා ඒක හරියට මේ වගේ කියනවා. කොච්චර සුවඳවත් දේකටවත්, ගොඩාක් සුවඳවත් දේකටවත් නිලමැස්සාට හිත පහදින් නෑ කියනවා. නිලමැස්සා සුවඳට නෙවෙයි කැමති, ඒකා කැමැති අශුචියේ තියෙන ගඳට. උගට හිත ඇදි යන්නේ අශුචියට මිසක්, සඳුන් සුවඳ තිබ්බා කියලා නිලමැස්සාට වැඩක් නෑ. වෙනයම් මිහිරි සුවඳ ලෝකෙ තිබ්බා කියලා නිලමැස්සාට වැඩක් නෑ. අශුචියේ ගඳට, වමනයේ ගඳට ඒකා ආසයි. ඒ වගේ පින නැති අභාග්‍යය සම්පන්නයා නිලමැස්සා බඳුය. කොච්චර හිත පහදින ධර්මයක් අහන්න ලැබුනත්, කොච්චර හිත පහදවන ශ්‍රමණ රුවක් දකින්න ලැබුනත් නිලමැස්සා බඳු අභාග්‍යසම්පන්නයාට හිත පහදින්නේ නැත. එතකොට බලන්න අර සුජාත කියන රහතන් වහන්සේ දකිනකොටම මේ කාන්තාවගේ, මේ දාසිගේ හිත පැහැදුනා. දාසිට හිතක් උපදිනවා මට මේ තෙරුන් වහන්සේට යමක් පූජා කරගන්න ඇතිනම්. එතකොට මේ දාසි තමන් දිය අරගෙන එන්න ගියපු කටයුත්ත නවත්තලා රහතන් වහන්සේට වන්දනා කලා. වන්දනා කරලා කියනවා අනේ ස්වාමීනී, දන් ටිකක් පූජා කරගන්න ආසයි. ස්වාමීනී මා කෙරෙහි අනුකම්පාවෙන් මං ඉන්න වාසස්ථානයට වැඩම කරන්න කියලා. ඉතින් රහතන් වහන්සේ අනුකම්පා

කලා, උන්වහන්සේ වැඩම කලා. වැඩම කරද්දි දැන් මේ දාසිනෙ. මහා සිටුමන්දිරේ වුනත් ස්වාමීන් වහන්සේව ඉස්සරහ පැත්තෙන් වඩම්මගන්න ඇයට බෑ. සිටුමන්දිරේ ඇලාට විවර වෙන්නෙ පිළිකනන, අනිත් පැත්තෙන්. ඒ පැත්තේ චූටිවට ඇට වාසය කරන්න තැනක් තිබුනා. ඈ එතෙන්ට වැඩම කරවලා පොඩි පුටුවක් එළියට අරගෙන ඇවිල්ලා, රුක් සෙවණක ආසනය පනවලා සිටු නිවසින් තමන්ට හම්බෙන ආහාර කොටස රහතන් වහන්සේට පූජා කලා. එතකොට මේ දාසිගේ වැඩේ සිටු මන්දිරේ ඉන්න සිටු දේවිය බලාගෙන ඉන්නවා. මේ දාසි කෙල්ල, අපිට බැලමෙහෙවරකම් කරන කෙල්ල මේ කරන කටයුත්ත. ඒ සිටුදේවියගේ හිත ප්‍රසාදයට පත්වුනා. සිටුදේවි ප්‍රසාදයෙන් මේ දාසියට කතා කරනවා, දාසි මේ දානෙ පූජා කරලා ඔක්කොම අවසන් වුනාට පස්සෙ කියනවා, කෙල්ලෙ උඹ හරී ගුණසම්පන්නයි, උඹේ කටයුත්ත දැකලා මගේ හිත හරීයට පැහැදුනා. ඒ නිසා කෙල්ලේ උඹ අද ඉඳන් දාසී නොවෙයි, අද ඉඳන් උඹ මේ සිටු නිවසේ දියණී. ඒක පින්වතුනි මේ සිටු මන්දිර වල තිබුනු, සිටු තනතුරු දැරූ මහාසිටුවරුන්ගේ තිබ්බ පිළිවෙලක්. ඔය දාස භාවය කියන එක, වහල් භාවය කියන එක අපිට තේරෙන් නෑ, මොකද ඒ කාලෙ වෙනකොට ඒක ඒ කාලෙට වඩා ගොඩක් වෙනස් වෙලා නිසා. නැත්නම් පින්වතුනි, වහලා කියලා ගත්තොත් එහෙම වහල්කම් කරන දාසයා කියලා ගත්තොත් ඒක හරියට ගෙදර ඇති කරන සතෙක් වගේ. ඒ ස්වාමියාගේ වචනයට අනුව ස්වාමියාගේ යටතේ ඉන්න කෙනෙක් තමයි දාසයා, වහලා කියලා කියන්නෙ. ඒ දාසයෝ ගැන හිත් පැහැදුනාට පස්සෙ සිටුවරු කරන වැඩේ ඒ දාසයාට තියෙන තත්වය උසස් කරනවා. එතකොට ඒ තත්වය උසස් කලා සම්පූර්ණයෙන්ම දාසිය දියණිය තනතුරේ පිහිටෙව්වා. ඒ සිටුදුව හරී ප්‍රසාදයට පත්වෙලා දාසියව දියණි තනතුරේ පිහිටුවලා දැන් දුව වුනාට පස්සෙ සිටුමැදුරේ ධනය පරිහරණය කරන්න පුලුවන්. ඇට කිව්වා, දුවේ - දැන් කතා කරන්නෙ දුව කියලා. එහෙනම් දුවේ අද ඉඳන් දන් දෙද්දි මාවත් දානයට එකතු කරගන්න ඕන කිව්වා. දැන් සිටු මන්දිරයේ දන් දෙන්න පටන් ගත්තා මෑ නිසා. එක පින්වතියකගේ පින් හිතක් නිසා සිටු මන්දිරයක් දන් දෙන්න පටන් ගත්තා. සිටු මන්දිරයේ පිරිස නිතර බණ අහන්න යන්න පටන් ගත්තා. මැය නිරන්තරයෙන් පදුමුත්තර බුදුරජාණන් වහන්සේ අභිමුඛයේ බණ අහනවා, භික්ෂුණීන් වහන්සේලා අභිමුඛයේ බණ අහනවා. එසේ දහම් කතාව අහද්දි ඇට දවසක් දැනගන්න ලැබුනා මේ බුද්ධ ශාසනයේ ඉන්නවා කියලා ධර්මකථික භික්ෂුණීන් අතර අග්‍ර භික්ෂුණියක්. පදුමුදුත්තර බුදු සසුනේ ධර්ම කථික භික්ෂුණීන් අතර

අග්‍ර භික්ෂුණියක් දකිද්දි ඇයටත් හිතක් උපදිනවා ඇයටත් ආසාවක් උපදිනවා මතු බුද්ධ ශාසනයක අනේ මටත් ධර්ම කථික භික්ෂුණීන් අතර අග්‍ර වෙන්න ඇතිනම්. අන්න එහෙම තමයි හිත උපන්නෙ. ඉතින් එදා පටන් පින් පුරාගෙන ආවා. ඒ පින් පුරාගෙන පැමිණි ගමනේ විශේෂ තැන් අටුවාව සඳහන් කරනවා. ඒකෙ විශේෂ තැනක් තමයි පින්වතුනේ මේ මහා භද්‍ර කල්පයේම තිලෝගුරු අපගේ කාශ්‍යප අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ පහළ වුනු යුගයේ බරණැස කිකී කියන රජ්ජුරුවො තමයි රජකම් කලේ. ඒ රජ්ජුරුවන්ට දූලා හිටියා හය දෙනෙක්. ඒ දූලා හය දෙනාගෙන් හයවෙනි දියණිය විදියට ඇය උපන්නා සුධම්මා. සුධම්මා නමින් උපන්නා. ඇයට වැඩිමහල් සහෝදරියෝ විදියට හිටියා සමනී කියලා සහෝදරියක්. ඔය සමනී කියලා කියන්නෙ වෙන කවුරුවත් නෙවෙයි පින්වතුනි, මේ බුද්ධ ශාසනයේ ඛේමා අර්හත් උත්තමාවිය බවට පත්වුනේ එදා සමනී. ඊළඟට තව එක්කෙනෙක් හිටියා සමනගුත්තා, සමනගුත්තාව තමයි මේ බුද්ධ ශාසනයේ උත්පලවණ්ණා අර්හත් උත්තමාවිය බවට පත්වුනේ. තව වැඩිමහල් සහෝදරියක් හිටියා භික්ඛුණී කියලා, බලන්න ඒ කාලෙ ගැණු ළමයින්ට දාලා තියෙන නම්. භික්ඛුනී කියලා අක්කා කෙනෙක් හිටියා වැඩිමහල් අක්කා කෙනෙක්. ඈ වෙන කවුරුත් නෙවෙයි මේ බුද්ධශාසනයේ පටාචාරා අර්හත් උත්තමාවිය. ඊළඟට තව එක්කෙනෙක් හිටියා භික්ඛුදාසිකා, ඒ රජ කුලයේ රජ්ජුරුවො තමන්ගේ දූලාට නම් දාලා තියෙන්නෙ බුද්ධ ශාසනය කෙරෙහි පහන් සිතින්. භික්ඛු දාසිකා කියලා කියන්නෙ භික්ෂූන්ගේ දාසිය. එහෙම තමයි රජ දූලට නම් දාලා තියෙන්නෙ. භික්ඛු දාසිකා කිව්වෙ වෙන කවුරුත් නෙවෙයි මේ බුද්ධ ශාසනයේ භද්‍රාකුණ්ඩලකේශා අර්හත් උත්තමාවිය. ඊළඟට තව අක්කණ්ඩි කෙනෙක් හිටියා, කවුද ධම්මා. ධම්මා කියලා කියන්නෙ මේ බුද්ධ ශාසනයේ කිසාගෝතමී අර්හත් උත්තමාවියට. ඊළඟට මේ සුධම්මා කියන මැට බාල සහෝදරියක් විදියට යළි උපන්නා සංඝදාසිකා කියලා ඇට නමක් දැම්මා, ඒ වෙන කවුරුත් නෙවෙයි මේ බුදු සසුනේ විශාඛා මහාඋපාසිකාව. ඔය විදියට මහා පින් තිබ්බ පිරිසක් එක්ක ඒ බුද්ධ කාලයේ පින් පිරුවා. ඒ බුද්ධ කාලයේ කියලා කියන්නෙ ඉතින් අපේ ගෞතම අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ පහළ වෙන්න පෙර බුද්ධ ශාසනයනෙ. මේ මහා භද්‍ර කල්පයේ තුන්වෙනි වර පහළ වෙච්චි තථාගත අර්හත් සම්බුදුරජාණන් වහන්සේ. ඒ ජීවිතේ බොහෝ පින් පුරාගෙන ඇය දෙව්ලොව ඉපදිලා අපේ ගෞතම අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලොව පහළ වෙන මේ සමයේ උපන්නා රජගහනුවර. බොහෝම ධනවත්

පවුලක ඇ උපන්නෙ. ඇගේ නම ධම්මදින්නා. ධම්මදින්නාව තරුණ වයසට පැමිණෙනකොට ඇව විවාහ කරදුන්නා විශාඛ කියන මහධනවත් සිටුවරයාට. මේ විසාක සිටුවරයා අපේ සේනිය බිම්බිසාර මහරජ්ජුරුවන්ගේ සමීපතම හිතවතෙක්. සිටු තනතුර නිසාම රජ්ජුරුවොත් එක්ක හොඳ සමීප සම්බන්ධයක් තිබුනා, ඉතින් බිම්බිසාර රජ්ජුරුවෝ භාග්‍යවතුන්ගේ සමාගමේ බණ අහනකොට මේ විසාක කියන සිටුවරයාත් ගිහිල්ලා බණ ඇහුවා. විසාක සිටුවරයා කියලා කියන්නෙ මහා ඥාණන්තයෙක්. පළමුවෙනි බණ පදය ඇසීමෙන්ම අනාගාමී ශ්‍රාවකයෙක් බවට පත්වුනා. පළවෙනි බණ පදය අහනකොටම, මේ පෘථග්ජන කෙනෙක් විදියට අහන්න වාඩිවුනේ. නැගිට්ටේ අනාගාමී ශ්‍රාවකයෙක් විදියට. ඒ කාලෙ නම් පින්වතුනි බුද්ධ ශාසනය හරි පුදුමයි. මේ වාඩිවෙනවා භාග්‍යවතුන් වහන්සේගෙන් බණ අහන්න, එක්කො නැගිටින්නෙ සෝවාන් වෙලා. එක්කො නැගිටින්නෙ සකදාගාමී වෙලා. එක්කො නැගිටින්නෙ අනාගාමී වෙලා. එක්කො නැත්නම් රහතන් වහන්සේලා පහළ වෙනවා. හරි පුදුම සහගතයි ඒ කාලෙ ඒ පින්වන්තයන්ගේ යුගය. ඉතින් විසාක සිටුතුමා අනාගාමී වුනා. අනාගාමී වුනා කියලා කියන්නෙ කාමය කෙරෙහි තියෙන ඇල්ම සම්පූර්ණයෙන්ම නැතිව ගියා. කාම රාග පටිග සම්පූර්ණයෙන්ම නැතිව ගියා. දැන් එතුමාගේ හිත කාමයේ ඇලෙන්නෙ නෑ. කාම සිතුවිලි වල එතුමාගේ හිත ගැලෙන්නෙ නෑ. නිවසට යනවා. නිවසට ගියාට පස්සෙ වෙනදා වගේ නොවෙයි. දැන් වෙනදා ගියාම නම් මේ ධම්මදින්නා කියන තම ප්‍රිය බිරිඳත් එක්ක සතුටු වෙනවානෙ. ඒ මොකුත් නෑ දැන්. ඇයව බැහැර කරලා, ඇයව දුරස් කරලා, ඇය දවසක් දෙකක් තුනක් මේක බලාගෙන හිටියා. බලාගෙන ඉද්දි ඇයට වාවගන්න බෑ මේක, දැන් අඹුසැමියො එකට විවාහ වුනාට පස්සෙ තමන්ගේ ප්‍රිය ස්වාමිපුරුෂයා තමන්ව බැහැර කරනවා නම් තමන්ව යහනට ගන්නෙ නැත්නම්, එතකොට ස්ත්‍රියට සැකයක් උපදිනවා නේද, ඇයි මාව මෙසේ බැහැර කරන්නෙ, ඇයි මාව පිළිකුල් කරන්නෙ. ඇයි මාව ඈත් කරන්නේ කියලා ස්ත්‍රියකට සැක උපදිනවා. ඇයට ගොඩාක් දුක හිතුනා, ධම්මදින්නාවට. මගේ මේ ස්වාමිපුරුෂයා මාව මෙසේ බැහැර කරන්නේ මොහු කාගෙන්වත් කේලම් අහලා මං ගැන වැරදි මතයකටවත් ඇවිල්ලද. එතකොට ඈ ගිහිල්ලා දවසක් මේ විසාක සිටුවරයාට අඬ අඬා කියනවා අනේ ඔය විදියට කරන්න එපා මට, මගෙන් වැරැද්දක් වුනා නම් කියන්න. වැරැද්ද වෙච්චි එක නොකියා මාව නිකං බැහැර කරන්න එපා කියලා. එතකොට විසාක සිටුවරයා තමන් අවබෝධ කරපු ධර්මය, තමන් ජීවිතේ දැක්ක විදිය, මේ ධම්මදින්නාවට විස්තර කරන්න පටන්

ගත්තා. දැන් මේ විස්තරය කරන්නෙ පින්වතුනි ධර්මය අවබෝධ කරපු ශ්‍රාවකයෙක්, ඒ දහම් කතාව විශාරදයි. ඒ විශාරද දහම් කතාව සිද්ධ වෙනකොට ධම්මදින්නාවට ධර්මය ගැන බලවත් ආසාවක් උපන්නා. ඇටත් සතුටු හිතෙනවා, ඇයත් මේ ධර්මය දැන් මනසිකාර කරනවා, ඇයට විශාල සතුටක් උපන්නා මේ ධර්මය ගැන. එතකොට මේ විසාක සිටුවරයා මේ විස්තරය කියලා අවසන් කරලා කියනවා දැන් ධම්මදින්නාවෙනි අදින් පස්සෙ ඔබගේත් මගේත් අඹුසැමියෝ විදියට වාසයක් කියන එකක් නම් යළි සිද්ධ වෙන්නෙ නෑ. ඒ නිසා මේ තරුණ වයසේ ඔබ කැමැති නම් වෙන ස්වාමි පුරුෂයෙකුට මගේ කිසි අමනාපයක් නෑ. ඔබ ඒ ඔබ ප්‍රිය කරන ස්වාමිපුරුෂයාත් එක්ක විවාහ වෙන්න. ඔබ කැමැති නම් පින් දහම් කරගෙන මේ සිටු මන්දිරයේ ඉන්න. මගේ කිසි විරුද්ධත්වයක් නෑ, ඔබ පිනක් දහමක් කරගෙන සිටු මන්දිරයේ ඉන්න කිව්වා. එතකොට ධම්මදින්නාව කියනවා මගේ ප්‍රිය ස්වාමීනී, ඒක නෙවෙයි මගේ අදහස. ඔයා මේ බුද්ධ ශාසනය ගැන ඔච්චර ප්‍රසාදයෙන් ඉන්නවා නම් ඔයා මේ බුද්ධ ශාසනයේ දැන් ධර්මයත් අවබෝධ කරලා නම් මාත් ආසයි මේ බුද්ධ ශාසනයට මගේ ජීවිතේම කැප කරන්න. මං මහණ වෙනවා. මට මහණ වෙන්න අවසර දෙන්න කිව්වා. ඉතින් විසාක සිටුවරයා හරී ප්‍රසාදයට පත්වෙලා ලස්සන දෝලාවක් හැදෙව්වා. ඒ දෝලාව හදවලා ඒ දෝලාවේ ඇයව වඩා හිදෙව්වා. මහාපෙරහැරක් සූදානම් කලා. පෙරහැරෙන් ඇයව පැවිදි කිරීම පිණිස මෙහෙණවරට එක්කන් ගියෙ. ඇයි හරී සතුටු වුනා විසාක සිටුවරයා. එහෙම තමයි ධම්මදින්නාවගේ පැවිද්ද සිද්ධ වුනේ. ධම්මදින්නා එදා ඔය විදියට පැවිද්දට පත්වෙලා, ඉතාම කෙටි කලයි. ඇය බොහෝම නුවණැතියි, සංසාරයේ පින් පිරූ කෙනෙක්. ඉතාම කෙටි කලකින් ඇය සියලු කෙලෙසුන් නසා අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. ඒ අර්හත් උත්තමාවිය බවට පත්වුනාට පස්සෙ මේ ධම්මදින්නාව යළිත් වතාවක් රජගහනුවරට වැඩම කරනවා. ඒ කියන්නෙ මේ පැවිද්දට පත්වුනාට පස්සෙ පින්වතුනි, රජගහනුවර අතහැරලා ගියා. රජගහනුවර අතහැරලා ගිහිල්ලා කාලෙකට පස්සෙ තමයි මේ රජගහනුවරට ඇය පැමිණෙන්නෙ. ඇය වැඩම කලා කියන ආරංචිය විසාක කියන අනාගාමී උපාසකතුමාට ආරංචි වුනා. ඇයව බැහැදැකීම පිණිස විසාක කියන මේ උපාසකතුමා ඒ මෙහෙණවරට පැමිණෙනවා. මෙහෙණවරට පැමිණිලා ධම්මදින්නා අර්හත් උත්තමාවියත් එක්ක බොහෝම ලස්සන දහම් කතාවක් සිද්ධ වුනා, ඒ දහම් කතාව අපේ දහම් පොතේ සඳහන් වෙන්නෙ චූලවේදල්හ ප්‍රශ්නෝත්තර සාකච්ඡාවක් වශයෙන්

වදාළ කුඩා දෙසුමක්. මජ්ඣිම නිකාය එක පොත් වහන්සේගේ චූලවේදල්හ සූත්‍රය. විසාක සිටුවරයා බොහොම ගැඹුරු ප්‍රශ්න අහනවා, ධම්මදින්නා අර්හත් උත්තමාවියගෙන්. ඇය ඉතාම සුන්දර විදියට ඒ ප්‍රශ්න වලට පිළිතුරු දෙනවා. බලන්න විසාක උපාසකතුමා අහපු දේ. පින්වත් ආර්යාවෙනි, සක්කෝ සක්කෝති වෙයෙවුච්ඡති, සක්කාය සක්කාය කියන වචනය මේ ධර්මය තුළ අහන්න ලැබෙනවා. පින්වත් ආර්යාවෙනි, සක්කාය කියලා කියන්නෙ මොකක්ද? අර්හත් උත්තමාවිය පිළිතුරු දෙනවා, පින්වත් විසාක, සක්කාය කියලා භාග්‍යවතුන් වහන්සේ වදාළේ පංචුපාදානස්කන්ධය ගැනයි. එනම් රූප උපාදානස්කන්ධය, වේදනා උපාදානස්කන්ධය, සංඥා උපාදානස්කන්ධය, සංස්කාර උපාදානස්කන්ධය, විඤ්ඤාණ උපාදානස්කන්ධය කියන මේ පංචුපාදානස්කන්ධයට කියපු නම තමයි සක්කාය කියන්නෙ. ඔන්න එහෙනම් පැහැදිලි කරගන්න හොඳ කාරණාවක්. සක්කාය කියන වචනය පාවිච්චි වෙනවානෙ හරීයට. සක්කාය කියලා කියන්නෙ මොකක්ද, පංචුපාදානස්කන්ධයට කියූ නමක්. සාදු සාදු සාදු කියලා අනුමෝදන් වෙලා අහනවා, පින්වත් ආර්යාවෙනි සක්කාය සමුදය කියලා වචනෙකුත් ධර්මයේ අහන්න ලැබෙනවා. සක්කාය හටගන්නවා කියලා. මේ සක්කාය හටගැනීම කියන්නෙ මොකක්ද? පින්වත් විසාක, යළි යළිත් භවයක් හැදෙන පොනොභවිකා, ආශ්වාදයෙන් ඇලෙන නන්දිරාගසහගතා, ගිය ගිය තැන සතුටින් පිළිගන්න තත්‍රතත්‍රාභිනන්දිනී, යම් ඒ තණ්හාවක් ඇත්ද ඒ තණ්හාව කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා කියන මෙන්න මේ ත්‍රිවිද තණ්හාවන් හේතුවෙන් තමයි සක්කාය හටගැනීම සිද්ධ වෙන්නෙ. සක්කාය හටගන්නෙ කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා කියන තණ්හා තියෙන නිසා. කාමයට තියෙන තණ්හාව නිසා පංචුපාදානස්කන්ධය හටගන්නේය. භවයට තියෙන ආසාව නිසා භව තෘෂ්ණාව නිසා පංචුපාදානස්කන්ධය හටගන්නේය. විභව තෘෂ්ණාව නිසාද පංචුපාදානස්ක්නධය හටගන්නේ යැයි - ඒ තණ්හාවේ ස්වභාවය මොකක්ද. යළි යළිත් භවයක් හැදෙනවා, එක්කො කාම භවය, එක්කො රූප භවය, එක්කො අරූප භවය, මේ භවයක් හැදෙනවා. ඒ හැදෙන හැදෙන තැන ආශ්වාදයෙන් ඇලෙනවා. ඇලිලා ඒ ඒ තැන සතුටින් පිළිගන්නවා. පින්වත් ආර්යාවෙනි, සක්කාය නිරෝධෝ, සක්කාය නිරෝධෝ, සක්කාය නිරුද්ධ වීම නිරුද්ධ වීම කියලා යමකුත් ධර්මයේ සඳහන් වෙනවා, මේ කවරක් ගැනද කියන්නෙ. ආයුෂ්මත් විසාක, පෙර කී ත්‍රිවිධ තණ්හාවම ඉතිරි නැතිව නිරුද්ධ වීමෙන්, අත්හැරීමෙන්, දුරු වීමෙන් නිදහස් වීමක් ඇත්ද, ආර්යය දුරු

කිරීමක් ඇත්ද මෙන්න මෙයට තණ්හාව නැති කිරීමටයි සක්කාය නිරෝධ කියලා කියන්නෙ. තණ්හාව නිසා තමයි පංචුපාදානස්කන්ධය හටගන්නෙ. ඒ තණ්හාව නිරුද්ධ කිරීම තමයි පංචුපාදානස්කන්ධ නිරෝධය, එහෙම නැත්නම් සක්කාය නිරෝධය. එහෙනම් පින්වතුනේ සක්කාය කියලා කියන්නෙ පංචුපාදානස්කන්ධයට. සක්කාය කියන්නෙ දුකට. සංකිච්චේන පංචුපාදන්ක්ඛන්ධා දුක්ඛා, සංක්ෂේපය කිව්වොත් පංචුපාදානස්කන්ධයයි දුක. එහෙමනම් දුක කුමක්ද, සක්කාය. ඒ සක්කාය හටගන්නේ තණ්හාව නිසා. ඒ ත්‍රිවිධ තණ්හාව දුරු වීමෙන් තමයි සක්කාය නිරෝධය සිද්ධ වෙන්නෙ. පින්වත් ආර්යාවෙනි, සක්කාය නිරුද්ධ වීමේ වැඩපිළිවෙල, සක්කාය නිරෝධ ගාමිණී පටිපදාය කියන යමක් ධර්මයේ සඳහන් වෙනවා. ආර්යාවෙනි සක්කාය නිරෝධ ගාමිණී පටිපදාව කුමක්ද. ආයුෂ්මත් විසාක, සක්කාය නිරෝධ ගාමිණී පිටිපදා කියලා කියන්නෙ අයමේව අරිය අට්ඨංගිකො මග්ගො. ඒ මේ ආර්ය අෂ්ටාංගික මාර්ගය තමයි. සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි. මේ ප්‍රතිපදාව මේ මාර්ගය තමයි සක්කාය නිරුද්ධ වීම පිණිස පවතින මාර්ගය. ඉතින් පැහැදිලි කලා. ඒ පැහැදිලි කලාට පස්සෙ දැන් සක්කාය ගැනනෙ මේ ප්‍රශ්න ඇහුවේ. දැන් විසාක කියන උපාසක තුමා මෙහෙම අහනවා. පින්වත් ආර්යාවෙනි උපාදාන කියලා කියන්නෙ පංචුපාදානස්කන්ධයට ද, එහෙමත් නැත්නම් පංචුපාදානස්කන්ධයෙන් බැහැර දෙයකටද. උපාදාන කියන වචනය පාවිච්චි වෙනවානෙ, ග්‍රහණය වෙනවා බැඳී යනවා කියලා. මේ කියන්නෙ පංචුපාදානස්කන්ධයටම ද, එහෙමත් නැත්නම් පංචුපාදානස්කන්ධයෙන් බැහැර දේකටද. ආයුෂ්මත් විසාකයෙනි, උපාදාන කියන්නෙ පංචුපාදානස්කන්ධයට නෙවෙයි. ඒ වගේම උපාදාන කියලා කියන්නෙ පංචුපාදානස්කන්ධයෙන් බැහැර දේකටත් නෙවෙයි. ආයුෂ්මත් විසාකයෙනි, පංචුපාදානස්කන්ධය ගැන යම් ඡන්දරාගයක්, කැමැත්තෙන් ඇලීමක් ඇත්ද, ඒක තමයි උපාදානය කියලා කියන්නෙ. උපාදානය කියලා කියන්නෙ මොකක්ද, පංචුපාදානස්කන්ධය කෙරෙහි ඡන්දරාගයෙන් ඇලීම. රූපය කෙරෙහි ඇලී යාමක් ඇත්ද, එයයි උපාදානය. විඳීම කෙරෙහි ඇලී යාමක් ඇත්ද, එයයි උපාදානය. සංඥා සංස්කාර විඤ්ඤාණ කෙරෙහි ඇලී යාමක් ඇත්ද එයයි උපාදානය. රහතන් වහන්සේලා කරන්නෙ ඒ උපාදානය දුරු කිරීම. පින්වත් ආර්යාවෙනි, සක්කාය දිට්ඨිය ඇති වෙන්නේ කොහොමද. සක්කාය දිට්ඨිය කියන සසරට බැඳ තබන බන්ධනය, මේ සංසාරයට බැඳලා තබන බන්ධන

තියෙනවානෙ පින්වතුනි දස සංයෝජන, ඒ දස සංයෝජන අතරේ ප්‍රබල සංයෝජනයක් සක්කාය දිට්ඨිය. අහනවා ආර්යාවෙනි සක්කාය දිට්ඨිය ඇති වෙන්නේ කොහොමද. එතකොට හරී ලස්සනට ධම්මදින්නා අර්හත් උත්තමාවිය, දැන් මේ අනාගාමී ශ්‍රාවකයෙක් තමයි මේ අහන්නෙ. හැබැයි මේ අනාගාමී ශ්‍රාවකයා දන්නෑ මේ වැඩ ඉන්නෙ අර්හත් උත්තමාවියක් කියලා. ඔහුට ඕන වුනේ ධම්මදින්නා අර්හත් උත්තමාවියගෙ එහෙමත් නැත්නම් ධම්මදින්නා තෙරණියගේ ධර්මය වැඩී යාම කොහොමද කියලා බලාගන්න. ඔහු ඒ නිසා සක්කායෙන් පටන් ගත්තා. මොකද, සම්බුද්ධ ශාසනය තුළ සෝතාපන්න ඵලය සාක්ෂාත් කරනකොට සක්කාය දිට්ඨිය දුරු වෙනවා. එහෙනම් සෝවාන් කෙනෙක් සක්කාය ගැන හොඳට දන්නවා. ඒ නිසා ඔහු මුලින්ම සක්කාය ගැන අහන්නෙ. සක්කාය දිට්ඨිය කොහොමද හටගන්නෙ. ඔහු ප්‍රශ්නය ඇහුවා. ධම්මදින්නා අර්හත් උත්තමාවිය විස්තර කරනවා විසාකයෙනි, මෙහිලා අස්‍රැතවත් පෘථග්ජනයා අරියානං අදස්සාවි අරියධම්මස්ස අකෝවිදො අරියධම්මෙ අවිනීතො, ආර්ය ධර්මය දන්නේ නැති ආර්යයන් වහන්සේලා හඳුනන්නේ නැති, ආර්යය ධර්මයට අදක්ස, සප්පුරිසානං අදස්සාවි සප්පුරිස ධම්මෙ අවිනීතො සප්පුරිස ධම්මෙ අකොවිදො, සත්පුරුෂ ධර්මයට අදක්ෂ සත්පුරුෂයන් නොහඳුනන සත්පුරුෂ ධර්මයේ හික්මෙන්නේ නැති අස්‍රැතවත් පෘථග්ජනයා රූපය ගැනත්, වේදනාව ගැනත්, සංඥාව ගැනත්, සංස්කාරය ගැනත්, විඤ්ඤාණය ගැනත් මේ සක්කාය ගැන විසි ආකාර වූ වැරදි දෘෂ්ටියක් ඇති කරගන්නවා. මොනවද ඒ වැරදි දෘෂ්ටි, ඔන්න අස්‍රැතවත් පෘතග්ජන කෙනා සත්පුරුෂ ධර්මයක පහස නොලැබූ නිසා හිතනවා රූපං අත්තතො සමනුපස්සති, රූපය කියලා කියන්නෙ මට මගේ වසඟයේ පවත්වන්න පුලුවන් එකක්. අන්න සක්කාය දිට්ඨී. මේ රූපය කියලා කියන්නෙ මට ඕන විදියට පවත්වන්න පුලුවන් එකක් කියන තැනට එනවා. එහෙම නැත්නම් ආත්මය රූපවත් කියලා මුලාවෙන් දකිනවා. ඒ කියන්නෙ තමන්ගේ වසඟයේ පවත්වන්න පුලුවන් එකක් තියෙනවා. ඒ වසඟයේ පවත්වන්න පුලුවන් එක තමයි මේ රූපය විදියට පෙන්නුම් කරන්නෙ. එහෙම අල්ලගන්නවා. එහෙම නැත්නම් රූපය තිබෙන්නෙ ආත්මය තුළ. මේ රූපය කියන එකක් ඇත්ද, එය තියෙන්නෙ තමාගේ වසඟයේ පැවැත්විය හැකි දෙයක් තුළ කියලා වැරදියට ගන්නවා. එහෙමත් නැත්නම් ආත්මය තියෙන්නෙ රූපය තුළ. තමාගේ වසඟයේ පවත්වන්නට හැකි ස්වභාවය මේ රූපය අස්සෙ තමයි තියෙන්නෙ. කොහෙන් ගත්තත්, එකම එක තැනක හිරවෙනවා, ඒ තමයි මේ

රූපය මට ඕන විදියට පවත්වන්න පුලුවන්, මේක මගේ, මේක මම, මේක මට ඕන විදියට තියාගන්න පුලුවන් එකක් කියලා රූපෙ ගැන හිතනවා. විඳීම ගැනත් එහෙම හිතනවා, හඳුනගන්න දේවල් ගැනත් එහෙම හිතනවා, චේතනා ගැනත් එහෙම හිතනවා, හිත ගැනත් එහෙම හිතනවා. ඒක තමයි අශ්‍රැතවත් පෘථග්ජනයාගේ ස්වභාවය ඒ නිසාම ඔහු තුළ හටගන්නවා සක්කාය දිට්ඨි. පින්වත් ආර්යාවෙනි, සක්කාය දිට්ඨිය ඇතිනොවෙන්නේ කොහොමද? සක්කාය දිට්ඨිය ඔය විදියට නම් ඇතිවෙන්නෙ, සක්කාය දිට්ඨිය ඇති නොවෙන්නෙ කොහොමද? ආයුෂ්මත් විසාක, මෙහි ලා ශ්‍රැතවත් ආර්ය ශ්‍රාවකයෙක් ඉන්නවා. ඒ ශ්‍රැතවත් ආර්ය ශ්‍රාවකයාගේ ස්වභවාය අරියානං දස්සාවි, ආර්යයන් වහන්සේලා ද හඳුනන්නේය. අරිය ධම්මස්සකොවිදො, ආර්ය ධර්මය තේරුම් ගන්න දක්ෂයි. අරියධම්මෙ සුවිනීතො, ආර්ය ධර්මයෙහි හික්මෙනවා. සප්පුරුසානං දස්සාවි, සත්පුරුෂයන් හඳුනනවා. සප්පුරුෂ ධම්මෙ සුවිනීතො, සත්පුරුෂ ධර්මය තේරුම් ගන්න දක්ෂයි, සප්පුරුෂ ධම්මස්ස කොවිදො, සත්පුරුෂ ධර්මයෙන් හරි හොඳට හික්මෙන කෙනෙක්. ඔහු රූපය ආත්මය වශයෙන් ගන්නෙත් නෑ, ආත්මය රූපය වශයෙන් ගන්නෙත් නෑ. රූපය තුළ ආත්මය තියෙනවා කියලා හිතන්නෙත් නෑ, ආත්ම තුළ රූපය තියෙනවා කියලා හිතන්නෙත් නෑ. ඔහු දන්නවා මේ රූපය තමන්ගේ වසඟයේ පවත්වන්න පුලුවන් එකක් නෙවෙයි. විඳීම, සංඥා, සංස්කාර, විඤ්ඤාණ තමන්ගේ වසඟයේ පවත්වන්න පුලුවන් ඒවා නොවෙයි කියලා ඔහු දන්නවා. දන්නෙ මොකක් නිසාද, ආර්යය ධර්මය නිසා. සත්පුරුෂ ධර්මය නිසා. ඒ ආර්යය ධර්මය පිළිගත්ත නිසා. සත්පුරුෂ ධර්මය පිළිගත්ත නිසා. ආර්යය ධර්මයේ හික්මෙන්න දක්ෂ නිසා, සත්පුරුෂ ධර්මයෝ හික්මෙන්න දක්ෂ නිසා. එහෙම තමයි සක්කාය දිට්ඨිය දුරු වෙලා යන්නෙ. සක්කාය දිට්ඨියෙන් තොර කෙනාට ආත්ම සංඥාව නෑ, මගේ වසඟයේ පවත්වන්න පුලුවන් කියලා හැඟීමක් නෑ, ඔහුට තියෙන්නෙ පින්වතුනේ, සක්කාය දිට්ඨිය ගැන, මේ සක්කාය ගැන, එහෙම නැත්නම් පංචුපාදානස්කන්ධය ගැන ඔහුට තියෙන හැඟීම, මේ රූප, වේදනා, සංඥා, සංස්කාර, විඤ්ඤාණ මම නොවෙයි, මගේ නොවෙයි, මගේ ආත්මය මගේ වසඟයේ පවත්වන්න පුලුවන් එකක් නෙවෙයි. ඔන්න දැන් විසාක උපාසක අහනවා ආර්යාවෙනි, මොකක්ද මේ ආර්ය අෂ්ටාංගික මාර්ගය? ආර්ය අෂ්ටාංගික මාර්ගය කියන්නෙ විසාක අංග අටක්. උතුම් අංග අටකින් යුක්ත මාර්ගයක්. සම්මා දිට්ඨිය - නිරවද්‍ය වූ දැක්ම, සම්මා සංකල්ප - නිරවද්‍ය වූ සංකල්පනා, සම්මා වාචා - නිරවද්‍ය වූ වචන, සම්මා

කම්මන්ත - නිරවද්‍ය වූ කර්මාන්ත කටයුතු, සම්මා ආජීව - නිරවද්‍ය ආජීවය, සම්මා ආජීවය - නිරවද්‍ය වෑයම, සම්මා සති - නිරවද්‍ය සිහිය, සම්මා සමාධි - නිරවද්‍ය වූ සමාධිය. පින්වත් ආර්යාවෙනි, ආර්ය අෂ්ටාංගික මාර්ගය සංකතයක් ද, අසංකතයක් ද? සංකත කියන වචනය තෝරගන්න ඕන. සංකත කියලා කියන්නෙ හේතු ඵල දහමින් සකස් වෙච්චි දේවල් වලට. අසංකත කියලා කියන්නෙ හේතු ඵල දහමින් සකස් වෙන ස්වභාවයට අයිති නැති අමෘත නිවනට. ආර්ය අෂ්ටාංගික මාර්ගය කියන්නෙ සංකතයක්ද, අසංකතයක් ද කියලා ඇහුවා. ආයුෂ්මත් විසාක, ආර්ය අෂ්ටාංගික මාර්ගය වනාහි සංකතයකි. හේතු ඵල දහමින් හටගත්ත එකක්. පින්වත් ආර්යාවෙනි, ආර්ය අෂ්ටාංගික මාර්ගයෙන් ස්කන්ධ තුනක් යුක්තයි නේද? ඒ ස්කන්ධ තුන මොනවාද, ඒ ස්කන්ධ තුනකින් යුක්ත ආර්ය අෂ්ටාංගික මාර්ගය කොහොමද හැදිලා තියෙන්නෙ? ආයුෂ්මත් විසාක, ස්කන්ධ තුන හැදිලා තියෙන්නෙ ආර්ය අෂ්ටාංගික මාර්ගයෙන් නොවේ. ආර්ය අෂ්ටාංගික මාර්ගය ස්කන්ධ තුනෙන් හැදිලා තියෙන්නෙ. ඒ කොහොමද, ආයුෂ්මත් විසාක, සම්මා වාචා සම්මා කම්මන්ත සම්මා ආජීව යන මාර්ග අංග තියෙන්නෙ සීලස්කන්ධයේ, සමාධි ස්කන්ධයට ඇතුලත් වෙන්නෙ සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි කියන මාර්ග අංග. ප්‍රඥා ස්කන්ධයට අයත් වෙන්නෙ සම්මා දිට්ඨි සම්මා සංකල්ප කියන මාර්ග අංග. ධම්මදින්නා අර්හත් උත්තමාවිය ඉතාම පැහැදිලිව මේ ආර්ය අෂ්ටාංගික මාර්ගය ස්කන්ධ වලට බෙදී තියෙන ආකාරය පැහැදිලි කලා. අහනවා ආර්යාවෙනි, සමාධිය කියන්නෙ මොකක්ද? සමාධියට මුල්වෙන අරමුණු කියලා කියන්නෙ මොනවද? සමාධි පරිෂ්කාර කියන්නෙ මොනවාද? සමාධිය වඩනවා කියන්නෙ මොකක්ද? සමාධිය ගැන ඇහුවා දැන්. සමාධිය ගැන හරියටම පිළිතුරු දෙන්න නම් සමාධිය පූර්ණත්වයට පත්වෙලා තියෙන්නෙ ඕන. සමාධිය පිරෙන්නෙ අනාගාමී ඵලය සාක්ෂාත් කරනකොට. අනාගාමී කෙනෙක් තමයි මේ අහන්නෙ. එතකොට ධම්මදින්නා අර්හත් තෙරණිය විස්තර කලා, ආයුෂ්මත් විසාක, කුසල් සිතක යම් එකඟ බවක් ඇත්ද, මේක තමයි සමාධිය. කුසලය තුළ හිත එකඟ වීම සමාධියයි. සමාධියට මුල් වෙන අරමුණු කියන්නේ සතර සතිපට්ඨානයටයි. සමාධියට යමක් මුල් කරගන්නවාද, අරමුණක්, ඒ කුසල අරමුණ සතර සතිපට්ඨාන අරමුණක්. එක්කො කායානුපස්සනා, එක්කො වේදනානුපස්සනා, එක්කො චිත්තානුපස්සනා, එක්කො ධම්මානුපස්සනා. සමාධි පරිෂ්කාරය කියලා කියන්නෙ, සමාධි පිරිකර කියලා කියන්නෙ සතර සම්‍යක්ප්‍රදාන වීර්යයට. සතර

සම්‍යප්‍රදාන වීර්යය, මොනවද සම්‍යප්‍රදාන වීර්යය කියලා කියන්නෙ? නූපන් අකුසල් නූපදවීමේ වීර්යය, උපන් අකුසල් දුරු කිරීමේ වීර්යය, නූපන් කුසල් ඉපදවීමේ වීර්යය, උපන්නා වූ කුසල් රැකගෙන වඩා වර්ධනය කරගැනීමේ වීර්යය. සමාධිය වැඩීම කියලා කියන්නෙ විසාක, ඔය චිත්ත ඒකාග්‍රතාවයත්, සතර සතිපට්ඨානයත්, සතර සම්‍යප්‍රදානයත් නිතර නිතර පුරුදු කිරීමයි, වැඩීමයි, බහුල වශයෙන් වැඩීමයි. බොහොම ලස්සන විස්තරයක්. සමාධිය ගැන පරිපූර්ණ විස්තරයක්. සමාධිය වඩනවා කියලා කියන්නේ අර චිත්ත ඒකාග්‍රතාවය, සතර සතිපට්ඨානය, සතර සම්‍යප්‍රදානය යළි යළිත් පුරුදු කිරීම. පින්වත් ආර්යාවෙනි සංස්කාර කොච්චරක් තියෙනවාද? විසාකයෙනි, සංස්කාර තුනයි. කාය සංස්කාර, වචී සංස්කාර, චිත්ත සංස්කාර. ආර්යාවෙනි, කාය සංස්කාර කියන්නෙ මොනවාද? වචී සංස්කාර කියන්නෙ මොනවාද? චිත්ත සංස්කාර කියන්නෙ මොනවාද? ආයුෂ්මත් විසාක, කාය සංස්කාර කියන්නෙ ආශ්වාස ප්‍රශ්වාස වලට. වචී සංස්කාර කියලා කියන්නෙ විතක්ක විචාර වලට. චිත්ත සංස්කාර කියලා කියන්නෙ සංඥා වේදනා වලට. බලන්න මේ සුන්දර ධර්ම ඥාණය. අහන අහන ප්‍රශ්න, අහන්නෙත් ධර්මානුකූල ප්‍රශ්න. පිළිතුරත් ඉතාම සුන්දර ධර්මයක්. එතකොට මේ විසාක අහනවා, ආර්යාවෙනි අශ්වාස ප්‍රශ්වාස වලට ඇයි කාය සංස්කාර කියන්නෙ? විතක්ක විචාර වලට ඇයි වචී සංස්කාර කියන්නෙ? සංඥා වේදනා වලට ඇයි චිත්ත සංස්කාර කියන්නෙ? ආයුෂ්මත් විසාක, අශ්වාස ප්‍රශ්වාස කියලා කියන්නෙ කායික දෙයක්. එතෙ ධම්මා කාය පටිපද්දා, ඒවා බැඳිලා තියෙන්නෙ කයට. ඒක කායික ස්වභාවයක්, කයට බැඳිලා තියෙනවා. කයට බැඳුනු නිසා අශ්වාස ප්‍රශ්වාස වලට කියනවා කාය සංස්කාර. ආයුෂ්මත් විසාකයෙනි ඉස්සෙල්ලාම කරන්නෙ හිතින් විතර්ක විචාර කරන එක. හිතින් විතර්ක විචාර කරපු එකක් තමයි වචන විදියට පිට කරන්නෙ. බලන්න ඒක එහෙම නෙවෙයිද කියලා. ඕනම කෙනෙක් කතා කරන්න කලින් විතක්ක විචාර කරනවා. ඒ විතක්ක විචාර කරලා ගොනු කරගත්ත එක තමයි කතා කරන්නෙ. අන්න ඒ නිසා තමයි විතක්ක විචාර වලට වචී සංස්කාර කියලා කියන්නෙ. සංඥා වේදනා කියන දෙක සිතටයි අයිති. ඒවා සිත හා බැඳිලා තියෙන්නෙ. එතෙ ධම්මා චිත්ත පටිබද්දා. අන්න ඒ නිසා තමයි සංඥා වේදනා වලට චිත්ත සංස්කාර කියලා කියන්නෙ. පින්වත් ආර්යාවෙනි, සංඥා වේදයිත නිරෝධ සමාපත්තියට සමවදින්නෙ කොහොමද? ඔන්න දැන් නිරෝධය ගැන අහනවා. දැන් මේ විසාක සිටුවරයා, එහෙම නැත්නම් විසාක උපාසකතුමා මේ ප්‍රශ්නය අහගෙන ආවෙ පිළිවෙලකට. ඉස්සරෝම සක්කාය

ගැන ඇහුවා. සක්කායෙන් පටන් ගෙන එතුමා ටික ටික සමාධිය දක්වා අරගෙන ආවා. එතකොට සමාධිය ගැන පරිපූර්ණ විස්තරයක් කියන්න බෑ කෙනෙකුට සමාධිය පිරිපුන් වශයෙන් අවබෝධ කලේ නැත්නම්. දැන් සමාධිය ගැන අහලා ඊටපස්සෙ අහනවා නිරෝධ සමවත, රහතන් වහන්සේලාට අයිති ධර්ම ගැන. ආයුෂ්මත් විසාක, සංඥා වේදයිත නිරෝධ සමාපත්තියට සමවදින භික්ෂුවට මෙහෙම හිතෙන් නෑ. මං සංඥා වේදයිත නිරෝධ සමාපත්තියට සමවදින්න ඕන. එහෙම නැත්නම් මම දැන් සංඥා වේදයිත නිරෝධ සමාපත්තියට සමවදිනවා. ඕන්න දැන් මං සංඥා වේදයිත නිරෝධ සමාපත්තියට සමවැදුනා කියලා එහෙම සිතුවිලි නෑ. නමුත් ඒ භික්ෂුවගේ හිත කලින්ම ඒ විදියට දියුණු කරලා තියෙන්නෙ. ඒ නිසයි නිරෝධ සමාපත්තියට සුදුසු විදියට හිත සකස් වෙන්නෙ. පින්වත් ආර්යාවෙනි, සංඥා වේදයිත නිරෝධ සමාපත්තියට සමවැදුනු භික්ෂුව තුළ ඉස්සෙල්ලාම නිරුද්ධ වෙන්නෙ මොනවාද? කාය සංස්කාර ද, වචී සංස්කාර ද, චිත්ත සංස්කාර ද? ආයුෂ්මත් විසාක, සංඥා වේදයිත නිරෝධ සමාපත්තියට සමවදින භික්ෂුව තුළ ඉස්සෙල්ලාම නිරුද්ධ වෙන්නෙ වචී සංස්කාර. ඊටපස්සෙ නිරුද්ධ වෙන්නෙ කාය සංස්කාර. ඊටපස්සෙ නිරුද්ධ වෙන්නෙ චිත්ත සංස්කාර. බලන්න මේ සම්බුද්ධ ශාසනයේ රහතන් වහන්සේලා සමවැදුනු අසිරිමත් සමාපත්තියක් පින්වතුනි. ඒ සමාපත්තිය තුළ අශ්වාස ප්‍රශ්වාසයත් නෑ. ඇත්තෙන්ම හතරවෙනි ධ්‍යානයට සමවදිනකොටත් අශ්වාස ප්‍රශ්වාස කියන කාය සංස්කාර නවතිනවා. එහෙම තමයි මේ ධ්‍යාන සමාපත්ති වල දියණුව, ධ්‍යාන සමාපත්ති වලට සමවැදීම කියන එක හැබෑවටම ශාසනය තුළ තියෙන්නෙ. ඉතින් මේවා මේ හැබෑම රහතන් වහන්සේලා වදාරන කාරණා ඉගෙන ගනිද්දි තමයි අපිට හොඳටම තේරුම් ගන්න තියෙන්නෙ. විසාක අහනවා, ආර්යාවෙනි සංඥා වේදයිත නිරෝධ සමාපත්තියෙන් නැගිටින්නෙ කොහොමද? ආයුෂ්මත් විසාක, සංඥා වේදයිත නිරෝධ සමාපත්තියෙන් නැගිටින භික්ෂුවට මෙහෙම හිතෙන් නෑ. මං සංඥා වේදයිත නිරෝධ සමාපත්තියනේ නැගිටින්න ඕන. එහෙම නැත්නම් මං මේ නිරෝධ සමාපත්තියෙන් නැගිටිනවා, ඔන්න මං මේ නිරෝධ සමාපත්තියෙන් නැගිට්ටා කියලා එහෙම හිතෙන්නෙ නෑ, නමුත් නිරෝධ සමාපත්තියෙන් නැගිටින විදියට කලින්ම හිත සකස් කරලා තියෙන්නෙ. ආර්යාවෙනි, සංඥා වේදයිත නිරෝධ සමාපත්තියෙන් නැගිටින භික්ෂුවට ඉස්සෙල්ලාම ඇතිවෙන්නෙ කාය සංස්කාර ද, වචී සංස්කාර ද, චිත්ත සංස්කාර ද? ආයුෂ්මත් විසාක, සංඥා වේදයිත නිරෝධ සමාපත්තියෙන්

නැගිටින භික්ෂුව තුළ ඉස්සෙල්ලාම ඇතිවෙන්නෙ චිත්ත සංස්කාර. සංඥා වේදනා. ඊටපස්සෙ ඇතිවෙන්නෙ කාය සංස්කාර අශ්වාස, ප්‍රශ්වාස. ඊටපස්සෙ තමයි විතක්ක විචාර කියන වචී සංස්කාර ඇතිවෙන්නෙ. පින්වත් ආර්යාවෙනි, නිරෝධ සමාපත්තියෙන් නැගිට්ට භික්ෂුවගේ හිතට දැනෙන්නෙ මොනවගේ ස්පර්ශයක්ද? ආයුෂ්මත් විසාකයෙනි, නිරෝධ සමාපත්තියෙන් නැගිට්ට භික්ෂුවට තුන් ආකාරයක ස්පර්ශයක් දැනෙනවා. ඒ ස්පර්ශ තුන මොනවාද, ඔහු සුඤ්ඤතය ස්පර්ශය වෙනවා. සුඤ්ඤතය කියලා කිව්වෙ මේ හැමදෙයක්ම ආත්ම ස්වභාවය හිස් කියන එක, අනාත්මයි කියන හැඟීම. ඊළඟට අනිමිත්ත ස්වභාවය ස්පර්ශ වෙනවා. අනිමිත්තය. අනිමිත්තය කියලා කියන්නෙ මේ කෙලෙස් සටහන් කිසිවක් නෑ කියන එක. කෙලෙස් නිමිති මොකුත් නෑ කියන එක තමයි මේ අනිමිත්ත. අප්පනිහිතය ස්පර්ශ වෙනවා. අප්පනිහිතය කියලා කියන්නෙ හැමදේකින්ම මිදුනා කියන සංඥාව. නිරෝධ සමාපත්තියෙන් නැගිටින රහතන් වහන්සේට ඔන්න ඔය විදියේ ස්වභාවයක් තමයි උපදින්නෙ. ඉතින් පින්වතුනේ මේ විස්තරය ගොඩක් දීර්ඝයි. චූලවේදල්හ සූත්‍ර දේශනාව. ඉතින් මේවගේ බොහෝම ගම්භීර ධර්ම කාරණා ගණනාවක් විසාක කියන සිටුවරයා, විසාක කියන අනාගාමී උපාසකතුමා ධම්මදින්නා අර්හත් උත්තමාවියගෙන් එකින් එක එකින් එක පැහැදිලි කරගත්තා. ඒ අහන අහන පැනයට කිසි පැකිලීමක් නැතිව ධම්මදින්නා අර්හත් උත්තමාවිය පිළිතුරු ලබාදුන්නා. ඉතින් මේ චූලවේදල්හ සූත්‍රය අපිට ධර්ම දේශනාවේදී සම්පූර්ණ වශයෙන් කරන්නට කාලවේලාවක් ඇත්තෙ නෑ, ඔබට කියවගන්න පුලුවන්. ධම්මදින්නා අර්හත් උත්තමාවියගේ විචිත්‍ර වූ ධර්ම කථිකත්වය. විසාක සිටුවරයා මේ උතුම් දහම් කතාව අහලා බොහෝම සතුටු වෙලා භාග්‍යවතුන් වහන්සේ සම්මුඛයට ගිහිල්ලා බුදුරජාණන් වහන්සේට කිව්වා ස්වාමීනී, අද ධම්මදින්නා අර්හත් තෙරණියත් එක්ක ධම්මදින්නා භික්ෂුණියත් එක්ක, ධම්මදින්නා ආර්යාවත් එක්ක මං මේ විදියේ දහම් කතාවක් ඇතිවුනා. ස්වාමීනී, හරීම සුන්දර විදියට මට කරුණු පැහැදිලි කලා. බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ වදාළා විසාකයෙනි, ධම්මදින්නා කියලා කියන්නෙ පණ්ඩිතයි, හරී නැණවත්, ධම්මදින්නාව මේ බුද්ධ ශාසනයේ සියලු කෙලෙස් නැසූ කෙනෙක්. ඒ සියලු කෙලෙස් නැසූ ධම්මදින්නා අර්හත් උත්තමාවිය තමන් ගැනම වදාළ ගාථාවක් අපි මේ ථෙරී ගාථා වල අන්තර්ගත වෙනවා. බොහෝ දුරට පින්වතුනේ මේ ථෙරී ගාථාව ධම්මදින්නා අර්හත් උත්තමාවිය වදාරන්න ඇත්තේ පිරිනිවන් පාන මොහොතේ. ගොඩාක් රහතන් වහන්සේලා සහ ඒ

අර්හත් තෙරණිවරු තමන් ගැනම ගාථා වදාලේ පිරිනිවෙන්න සූදානම් වෙන වෙලාවේ. ඉතින් බලන්න ධම්මදින්නා අර්හත් උත්තමාවියගේ ගාථාව. ඡන්ද ජාතා අවසායේ මනසාච පුඨාසියා කාමේසු අප්පටිබද්ධ චිත්තා උද්දංසුතා ති වුච්ඡති, නිවන් දකින්නමයි හිතේ ආසාව ඇතිවුනේ. වෙන දේකට වසඟ වුනේ නෑ. මනසින් නිවන ස්පර්ශ කලා. කාමයන් පිළිබඳව සිත බැඳී නැති ජීවිතය ඇති කෙනාට උඩුගම් බලා යන්නේ කියලයි කියන්නෙ. ඉතින් ඒ තමයි ධම්මදින්නා අර්හත් තෙරණියගේ ගාථාව. ධම්මදින්නා අර්හත් තෙරණිය බුද්ධ ශාසනයේ අගතනතුර ලැබුවා ධර්ම කථික භික්ෂුණීන් අතර අග්‍ර මහා ශ්‍රාවිකාවක්. ඒ ධම්මදින්නා අර්හත් උත්තමාවිය ඒ කාලෙ මේ බුද්ධ ශාසනය කෙරෙහි නොපහන් පිරිසට ඒ උත්තමාවියගේ විචිත්‍ර ධර්ම කථිකත්වයෙන් බණ පද කියනකොට බොහෝ දෙනෙක් බුද්ධ ශාසනයේ පහන් සිත් ඇතිකරගත්තා. ඊළඟට මේ තෙරණී ගාථා කියවනකොටත්, අටුවා පොත් වහන්සේ තුළ සඳහන් වෙනවා, ධම්මදින්නා අර්හත් උත්තමාවියගේ බණ පද අහලා බොහෝ කාන්තාවො සම්බුද්ධ ශාසනයේ පැවිදි වෙලා කෙලෙස් නසලා තියෙනවා. ඒ නිසා බොහෝ දෙනෙකුට පිහිට සැළසුවා, ධම්මදින්නා අර්හත් තෙරණින් වහන්සේ. ඉතින් ඒ ධම්මදින්නා අර්හත් තෙරණින් වහන්සේට වන්දනා කරමින් අපිත් අධිෂ්ටාන කරමු ඒ උතුම් රහතන් වහන්සේලා, රහත් තෙරණිවරු නිවී සැනසුන අමා නිවනේ අපිටත් සැනසෙන්න ලැබේවා, සාදු සාදු සාදු!!!

අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව මේ විදියට සිදු කරන්න විකාශන දායකත්වයන් දරනු ලැබුවේ ඔස්ට්‍රේලියාවේ පදිංචි පින්වත් චමින්ද සම්පත් මහතා සහ නිලීකා ලක්මාලි මහත්මිය ඇතුළු පවුලේ සියලු දෙනා විසින්. රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයෝ සක්දෙව්දුන් සතර වරම් දෙවිවරුන්, තිස් අටක් වූ සෙන්පති දෙවිවරුන්, ඉෂ්ටකාමී, හිතකාමී සියලුම දෙවිවරුන් සතුටින් අනුමෝදන් වෙත්වා. පින්වත් ආලවක දෙවියන්ටත්, සුමන සමන් දෙවිරජ ප්‍රධාන පොළොව වාසී සියලු දෙවියන්ටත් පින් අනුමෝදන්ව, දෙවියෝ දිවය සැපයෙන් වැඩේවා, ඒ දෙවියන්ගේ සියලු ආශිර්වාද අපිට සළසත්වා. දෙවියෝද සසර දුකින් අතමිදේවා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙලා පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වෙත්වා, නිරෝග වෙත්වා, දීර්ඝායුෂ ලබත්වා ගෞතම ශාසනය තුළ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරගන්න වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පූණ්‍ය ධර්මයෝ අද ධර්ම දානය සිද්ධ කරන

පින්වතුන්ලා බලාපොරොත්තු වන ආකාරයෙන්, පින්වත් සීදූවේ ධම්මරක්ඛිත ස්වාමීන් වහන්සේට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. මහමෙව්නාවාසී රට ලෝක වාසී පූජනීය මහා සංඝරත්නයට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂාවෙන් සිටින ඒ පින්වත් හැමදෙනාට පින් අනුමෝදන්ව ගෞතම ශාසනයේ ධර්මාවබෝධ කරන්න වාසනාව ලැබෙන්වා, සාදු සාදු සාදු!!! රැස් කල සියලු පුණ්‍ය ධර්මයෝ චමින්ද සම්පත් මහත්මාගේ නමින් මියපරලොව යන්න යෙදුනු පින්වත් යමුනා වසන්ති පෙරේරා මෑණියන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. ආර්.එච්. විමලසේන පියාණන්ට, අයි.ආර්. ටිකිරිබණ්ඩා පියාණන්ට, මාලාවතී මෑණියන්ට, විලියම් ප්‍රනාන්දු පියාණන්ට ඇතුළු දායකත්වය දරන පින්වත් හැමදෙනාගේ නමින්ම මියගිය සියලු ඥාතීන්ට පින් අනුමෝදන්ව ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයට පත්වෙත්වා. මේ දුක් සහිත වූ සංසාර ගමනින් අපගේ ඥාතීන් නිදහස් වෙත්වා කියන අදහසින් පින් අනුමෝදනා සිදු කරන්න. චමින්ද සම්පත් මහත්මාට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. නිලීකා ලක්මාලි මහත්මියට, පවුලේ සියලු දෙනාට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ඕස්ට්‍රේලියාවේ පදිංචි ඒ පින්වත් හැමදෙනාට කිසීම කරදරයකින් බාධාවකින් තොරව තමන්ගේ ජීවිත සුවසේ ගත කරන්න කල්‍යාණ මිත්‍ර ඇසුරේ සුවසේ පින් දහම් රැස් කරගන්න, ගුණ පුරන්න අවකාශ සැලසෙත්වා. මේ වෙනකොට රෝහල්ගත වී ප්‍රතිකාර ලබමින් සිටින පින්වත් සමන් අමරසිංහ මහත්මාටත්, ආර්.එච්. ආරියසේන පියාණන්ටත් මේ පිනේ ආශිර්වාදයෙන්, තෙරුවන් සරණින්, දෙවි රැකවරණයෙන්, ඉතා ඉක්මණින්ම නිදුක් නිරෝගී සුව සැලසේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. චන්ද්‍රාණි රාමවික්‍රම මෑණියන්ට, එස්.බී, ධනවතී මෑණියන්ට අනුමෝදන් වෙලා ඒ මෑණියන්ට නිදුක් නිරෝග සුව සැලසේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා, ධර්ම දානය සිද්ධ කරන ඒ සියලුදෙනාගේ ධාර්මික රැකී රක්ෂා කටයුතු සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා. දූදරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදිය සර්වප්‍රකාරයෙන් සාර්ථක වෙත්වා. සියලුදෙනාට නිරතුරුව උතුම් කල්‍යාණ මිත්‍ර ඇසුරම ලැවෙත්වා. සුවසේ පින් පුරාගන්න ලැබෙත්වා. සුවසේ දහම් මග දියුණු කරගන්න ලැබෙත්වා. ධර්ම දානය සිදු කරන පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ හැමදෙනාටත්, සුපින්වත් ඔබටත් මේ ගෞතම ශාසනයේ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=0CXx0W-wNEQ

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද දවසේ ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු මේ උතුම් සද්ධර්ම දේශනාව සඳහා අනුග්‍රහය දරනු ලබන්නේ මූලිකව තුන් මාසේ පින්කමක් නිමිති කරගෙන, වසර 65 ක් ආයු වළඳා 2021 මාර්තු මාසයේ පළමුවෙනි දින මියපරලොව යන්න යෙදුනු කඩුවෙල ජාතික ඉතිරිකිරීමේ බැංකුවේ විශ්‍රාමික සහකාර කළමණාකරු විදියට කටයුතු කරපු පින්වත් දයාසිරි සුදසිංහ මහත්මයාට පින් පෙත් අනුමෝදනා කරන අදහසින් කඩුවෙල ඉහළ ගෝමිරිය සාරභූමි උද්‍යානය අංක 9 නිවසේ පදිංචි විශ්‍රාමික ගුරු පද්මිණී එම්. සුදසිංහ මැණියන්, තිළිණි, ගයනි, වරුණි කියන දියණිවරුන්, බෑණාවරුන්, සහෝදරයන් සහ ඥාති හිතමිත්‍රාදීන් සියලුදෙනා විසිනුයි අද ධර්ම දානමය පින්කම සිද්ධ කරන්නෙ. සාංසාරික ගමනේ පින්වතුනේ ප්‍රිය වූ අයගෙන් වෙන් වෙන්න සිදුවීමෙන් අප්‍රිය අමනාප දේත් එක්ක එක්වන්න සිදුවීමෙන් ප්‍රිය වූ දේ අහිමි වීමෙන්, අප්‍රිය අමනාප දේ එක්වීමෙන් ජීවිතයට බොහෝ දුක් උපදිනවා. දුක ගැන දේශනා කරනකොට අපගේ ශාස්තෘන් වහන්සේ වදාළා පියෙහි විප්පයෝගෝ දුක්කො, මහණෙනි ප්‍රිය දේ අහිමි වීම දුකය. අප්පියෙහි සම්පයෝගෝ දුක්කො, අප්‍රිය අමනාප දේ සමඟ එක්වන්න වීම දුකය. මේ සංසාර ගමනේ තියෙන කතා. මේ සාංසාරික ගමනේ පැමිණෙනකොට ශාස්තෘන් වහන්සේ වදාළා නොයෙක් ජාති වල අපි ඉපදිලා

ඉද්දි මනුස්සයො විදියට මනුස්ස ලෝකෙට පැමිණිලා මව් අහිමි වෙද්දී හැඬූ කඳුළු එකතු කලොත් එක්කෙනෙක්, එක්කෙනෙක් අඬලා තියෙනවා කියනවා මේ සංසාර ගමනේ මහා සාගරයේ ජලය පරදන තරම් කඳුළු. එක්කෙනෙකුගේ දෑහින් වැගිරෙච්චි කඳුළු එකතු කලොත් සතර මහා සමුද්‍රයේ ජලය පරදිනවා. ඒ තරම් අඬලා ප්‍රිය විප්පයෝගය නිසා. අප්‍රිය සම්පයෝගය, අප්‍රිය අමනාප දේ අප්‍රිය අමනාප අය සමඟ එක්වෙන්න සිදුවෙද්දිත් අපි අඬලා. නොයෙක් ව්‍යසන, නොයෙක් ආපදා, නොයෙක් කරදර මේවා ඉස්සරහ අපි අඬද්දි අපේ ඇස් වලින් ගලාගෙන ගිය කඳුළු එකතු කලා නම් එක්කෙනෙක්ගේ, එක්කෙනෙක්ගේ කඳුළු ප්‍රමාණයත් සතර මහා සමුදුරේ ජල කඳ ඉක්මවා ගියා. එහෙම සංසාර ගමනක්. එහෙම සංසාර ගමනේ අපි ඉපදි ඉපදි එද්දි නෙයෙක් ජාති වල උපදිනවා, නොයෙක් සත්තු වෙලා උපදිනවා, ස්ත්‍රීන් වෙලා උපදිනවා, පුරුෂයො වෙලා උපදිනවා, මෙහෙම සංසාර ගමනක සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමකගේ සද්ධර්මය මුණගැහෙනවා කියන එක ඒක වචනයෙන් ප්‍රමාණ කරන්න බැරි වාසනාවක්. ඒ වාසනාව උදාවෙද්දි පින් තිබුනු ස්ත්‍රී පුරුෂයෝ ඒ ධර්මය අවබෝධ කරගෙන මේ දුක් විඳ විඳ යන ජීවිතෙන් නිදහස් වුනා. පින් තිබුනු පුරුෂයෝත් නිදහස් වුනා. පින් තිබුනු ස්ත්‍රීනුත් නිදහස් වුනා. ඇත්තෙන්ම මේ වැඩසටහන් මාලාවේදී අපි ඉගෙන ගන්නෙ එසේ සංසාර ගමනේ දුක් කඳින් නිදහස් වෙච්චි පින්වන්ත ස්ත්‍රීන් ගැන. ස්ත්‍රිය කියලා ගත්තහම, ඒ ස්ත්‍රී භාවය නිසා ඈය නොයෙක් නොයෙක් ආකාරයේ දුක් කම්කටොළු සන්තාප වලට ගොදුරු වෙනවා. ස්ත්‍රියක් ඉතා ළපටි වයසේදී තමන්ගේ තාත්තා කෙරෙහි විශේෂ ඇල්මකින් තාත්තාට විශේෂ ආදරයකින් යුක්තව තමයි චූටි ගෑණු ළමයි හැදෙන්නෙ.සාමාන්‍යයෙන් චූටි ගෑණු ළමයින්ගේ, බොහෝ දුරට ස්වභාවයක් තාත්තට ගොඩාක් ආදරෙයි. තාත්තාගේ රැකවරණය ඈට තදට දැනෙනවා. ඒ රැකවරණය හෙවණ කරගෙන ස්ත්‍රිය ජීවත් වෙනවා. ඈය ටිකක් වැඩිමහළු වේගෙන එනකොට ඈට ඉන්නවානම් සහෝදරයො, විශේෂයෙන් වැඩිමහල් සහෝදරයො ඒ වැඩිමහල් සහෝදරයාට ඈ විශේෂයෙන් ඇලුම් කරනවා. වැඩිමහල් සහෝදරයාගේ රැකවරණය පතනවා. ඈ තවත් වැඩෙද්දි ඈ තමන්ටම කියලා එක්කො පෙම්වතෙක් තමන්ම හොයාගන්නවා, පුරුෂයෙක්. ඒ පෙම්වතෙක් හොයාගත්තට පස්සෙ ඒ පෙම්වතාගේ රැකවරණයට පෙම්වතාගේ ස්නේහයට ඈ බැඳීයනවා. එහෙම නැත්නම් දෙමව්පියො තමන්ගේ කුල පරම්පරාවෙන් හොයලා දෙන පුරුෂයෙකුට ඈය බැඳීයනවා. ඔහුගේ සෙවණ යටට ඈය ආස

කරනවා. ඉතින් එහෙම තමයි බොහෝ ස්ත්‍රීන්ගේ ජීවිත. බොහෝ දුරට මේ ස්ත්‍රී ජීවිතය කියන එකේ ස්වභාවය ඔය විදියට තියෙනවා. ස්ත්‍රියට හරි අමාරුයි වියෝ දුක දරාගන්න. ස්ත්‍රියට හරි අමාරු එකක් වියෝ වීමේ දුක දරාගැනීම. නමුත් වියෝ වීමේ දුක මේ සංසාර ගමනේ අපිට උරුම එකක්. ඒ උරුම එක ඉස්සරහ සාමාන්‍යයෙන් හැම ස්ත්‍රියක්ම අඬද්දි, දොඩද්දි, වැළපෙද්දි, හූල්ලද්දි, කෙහෙවළු කඩාගෙන හඬද්දි නුවණ තිබ්බ පින් තිබ්බ ස්ත්‍රීන්ට වාසනාව ලැබුනා සම්බුද්ධ ශාසනයකට පැමිණිලා ඒ අඬන දොඩන වැළපෙන ජීවිතෙන් නිදහස් වෙන්න. දැන් ස්ත්‍රීන්ගේ ස්වාමිපුරුෂයො ගැන ගත්තහම පින්වතුනේ ඇතැම් ස්ත්‍රීන්ට, ඒ ස්ත්‍රීන් හරී දුකෙන් ඉන්නවා ඇලා බලාපොරොත්තුවෙන් හිටියා හොඳ පුරුෂයෙක්, හොඳ මනුස්සයෙක් හම්බුනේ නෑ කියලා. ඒක මේ ස්ත්‍රී ජීවිතේ දුකේ එක පැතිකඩක්. හොඳ මනුස්සයෙක් පතාගෙන ඉන්නවා, හොඳ මිනිහෙක් හම්බෙන් නෑ. ඒක එක පැතිකඩක්. තව පැත්තක් ගත්තොත් එහෙම හොඳ පුරුෂයෙක් පතාගෙන ඉන්න ස්ත්‍රියට හොඳ පුරුෂයෙක් ලැබෙනවා. තමන් කැමැති ආකාරයෙන් තමන්ට සෙනෙහස ලබා දිය හැකි, තමන්ට සතුට ලබා දිය හැකි, තමන් එක්ක ජීවිතේ ගොඩනගා ගත හැකි ප්‍රියමනාප පුරුෂයෙක් ඇයට හම්බෙනවා. හම්බුනාට එබඳු ප්‍රියමනාප පුරුෂයාගෙන් වෙන් වෙන්න සිද්ධ වෙනවා. දැන් එහෙම ප්‍රියමනාප පුරුෂයො අහිමි වීම නිසා මහා දුක් කම්කටොළු උරුම කරගත් ස්ත්‍රීන් පින්වන්ත ස්ත්‍රීන් මේ බුද්ධ ශාසනය තුළ කෙලෙස් නසලා අර්හත් උත්තමාවියො බවට පත්වුනා. ඒක වුනේ අර රෝහිණී නදියේ ජලය බෙදාගැනීම පිණිස යුද්ධය ඇතිවෙච්ච වෙලාවේ අපේ මහා කාරුණිකයන් වහන්සේ එහි වැඩම කොට මහා පෙළහර සහිතව දහම් දෙසුවානෙ. ධර්ම දේශනාව අවසානයේ ශාක්‍ය කෝලීය වංශ දෙකෙන්ම කුමාරවරු දෙසිය පනහ, දෙසිය පනහ බුද්ධ ශාසනයේ මහණ වුනා. ශාසන ධර්මයට ආස කරලා ඒ පන්සිය දෙනා පැවිදි වෙනකොට ඒ පන්සිය දෙනාට ආදරේ කරපු අය අත්හැරියා. ඒ පන්සිය දෙනාට ආදරේ කරපු අය හිටියා, විශේෂයෙන් පෙම්වතියො සහ බිරින්දෑවරු. ඇලාට දරාගන්න බැරිවුනා තමන් ආදරේ කරපු තමන්ගේ පුරුෂයෝ තමන්ව දාලා යනවා. තමන් මැවූ හීන ඔක්කොම බොඳ වෙලා යනවා. ඇලාට ඒ මොහොතේ දරාගන්න බැරිවුනා. ඇලා ඇඬුවා. හැබැයි ඇලාට ඒ ගමන නවත්වන්න බෑ. නමුත් ඇලාට තිබුනා පින. ඇලාට තිබුනා ඥාණය. පින සහ ඥාණය කියන දෙකම නැත්නම් ඔය සිද්ධිය සිද්ධ වෙද්දි ඒ ස්ත්‍රීන් ඔක්කොම පව් පුරවගන්නවා. ඇයි ඒ ස්ත්‍රීන්ට පින තිබ්බෙ නැත්නම්, ඥාණය තිබ්බෙ නැත්නම් භාග්‍යවතුන් වහන්සේට සාප

කරන්න පටන් ගන්නවානෙ. අපේ මනුස්සයො ටික අරගෙන ගියා, අපේ පෙම්වතුන්ලා අරගෙන ගියා, අපේ හීන ඔක්කොම බොඳ කෙරෙව්වා, මෙහෙම පින් නැති මෝඩකම තිබුනු ගෑණු හිටියා නම් එතන මහා ජරමරයක් ඒ ස්ත්‍රී ජීවිතයට වෙන්න තිබ්බා. හැබැයි ඇලාට පිනත් තිබුනා, ඇලාට ඥාණයත් තිබුනා. ඒ නිසා ඇලා තීරණය කලානෙ බුද්ධ ශාසනේ පැවිදි වෙන්න. අපි එහෙම පැවිදි වෙච්චි භික්ෂුණීන් ගැන කිහිප නමක් ගැනම ඉගෙන ගත්තා. අදත් අපිට ඉගෙන ගන්න තියෙනවා එබඳු භික්ෂුණීන් වහන්සේලා තුන් නමක් ගැන, තමන්ට හිටපු ආදර පුරුෂයො අත්හැරලා යාම හේතුවෙන් හදවතේ ඇතිවෙච්චි වියෝව නිසා ඇලා ඒ වියෝ දුකට ඖෂධය ලෙස, ඒ ඇතිවෙච්චි සන්තාපයට ඖෂධය ලෙස ධර්මය තෝරාගත්තා. විශාඛා තෙරණිය, විශාඛා කියන්නෙ අර ශාක්‍ය හෝ කෝලිය දේශයේ හිටපු තරුණියක්. ඇගේ ස්වාමිපුරුෂයා ගියාට පස්සෙ ඇයත් තීරණය කලා පැවිදි වෙන්න. ඉතින් මුල්ම පන්සිය නමත් එක්ක ඇවිල්ලා ඈ පැවිදි වුනේ. පැවිදි වුනාට පස්සෙ ඈ වීර්යය වැඩුවා. මේ වීර්යය වඩද්දි භාග්‍යවතුන් වහන්සේ මහා කරුණා නෙතින් ඇයව දැකලා ඇය උදෙසා මෙහෙම ගාථාවක් වදාළා. කරොථ බුද්ධ ශාසනං යං කත්වා නානුතප්පති කිප්පං පාදානි නිදෝවිත්තවා ඒක මන්තෙ නිසීද තාති මේ වෙලාවේ විශාකා තෙරණිය සක්මන් කරමින් හිටියෙ. සක්මන් කරමින් හිටි ඇට භාග්‍යවතුන් වහන්සේගේ මධුර ස්වරය ඇහෙනවා. යමක් කලාට පස්සෙ ඒ ගැන නොතැවී ඉන්න නම් ආන්න ඒ බුද්ධ අනුශාසනාව මයි කරන්න ඕන. යමක් කලාට පස්සෙ මේ ලෝකයේ නොතැවී ඉන්න පුලුවන් වෙනවා නම් පින්වතුනේ ඒ නොතැවී ඉන්න පුලුවන් වෙන්නෙ කුමක් කලොත්ද. බුද්ධ අනුශාසනාව, භාග්‍යවතුන් වහන්සේගේ වචනය, බුදුරජුන්ගේ වචනය කරපු කෙනාට තමන් කරපු දේ ගැන පසුනොතැවී ඉන්න පුලුවන්. ඉතින් ඒ නිසා එය තමයි කළ යුත්තේ. කිප්පං පාදානිදොවිත්වා, වහා පා සෝදාගෙන ඒකමන්තෙ නිසීදතාති, භික්ෂුණිය ඔබ එකත් පසෙක වාඩිවෙන්න කිව්වා. එළිමහනේ හිටපු ඇය භාග්‍යවතුන් වහන්සේගේ මේ අවවාදය අහලා කුටියට පිවිසුනා, පා දෝවනය කරගෙන. ඈ පළඟක් බැඳගෙන වාඩි වුනා. අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. එහෙම සැනසුනා. සුමනා තෙරණිය, සුමනා තෙරණිය කියලා කියන්නෙත් ඒ විදියට ඇවිල්ලා මහණ වෙච්චි කෙනෙක්. පැවිදි වෙලා වීර්යය වඩද්දි භාග්‍යවතුන් වහන්සේගේ මහා කරුණා නෙතට හසුවුනා. බුදුරජාණන් වහන්සේ ඈ උදෙසාත් ගාථාවක් වදාළා. ධාතුයො දුක්කතො දිස්වා මා ජාතිං පුනරාගමි, මේ සතර මහා ධාතූන්ගේ පැවැත්ම දුකක් වශයෙන් අවබෝධ

වුනාට පස්සෙ ආයෙත් ඉපදෙන සංසාරයට නම් එන්න එපා. භවෙ ඡන්දං විරාජෙත්වා උපසන්තා ඡවිස්සසි, භවය ගැන තියෙන ආසාව නැති කරගෙන උපසාන්ත සිතින් කල්ගෙවන්න. සතර මහා ධාතූන්ගේ පැවැත්ම දුකක්. සතර මහා ධාතූන්ගේ පැවැත්ම කියලා කියන්නෙ පඨවි, ආපො, තේජො, වායො. මේ පඨවි, ආපො, තේජො, වායො කියන සතර මහා ධාතූන් විදර්ශනා කරන කෙනා විදර්ශනා කරන්නෙ පින්වතුනෙ තමන් ගැන, තමන්ගේ ජීවිතේ ගැන. මේ සතර මහා ධාතූන් විදසුන් වඩනවා කියලා මේ මහපොළොවක් ගැන නෙවෙයි හිතන්නෙ. වතුර ගැන නෙමෙයි හිතන්නෙ. උෂ්ණුහුම ගැන නෙමෙයි හිතන්නෙ. වාතය ගැන නෙවෙයි හිතන්නෙ. ඒවා ගැන හිතලා කෙළවරක් කරන්න බෑ. දැන් මේ ලෝකෙ නොයෙකුත් විද්‍යාඥයො කියලා බිහිවෙන්නෙ ඒවා ගැන හොයන මිනිස්සු. ඉතින් ඒවා ගැන හොයන මිනිස්සුන්ට අපි වර්තමානයෙ කියනවා විද්‍යාඥයො කියලා. පොළොව හාරලා පොළොවේ එක එක පස් ජාති හොයාගන්නවා. පොළොවේ එක එක සංයුති හොයාගන්නවා. ඕක හොයාගෙන කෙළවරක් කරන්න පුලුවන් එකක් නෙවෙයි. වතුර ගැන හොයාගෙන කෙළවරක් කරන්න පුලුවන් එකක් නෙවෙයි. හුළඟ ගැන හොයාගෙන කෙළවරක් කරන්න පුලුවන් එකක් නෙවෙයි. උෂ්ණුහුමේ ස්වභාවය ගැන හොයාගෙන කෙළවරක් කරන්න පුලුවන් එකක් නෙවෙයි. එව්වා ගැන හොය හොයා ඉද්දිම මේ තමන්ගේ ශරීර කූඩුවේ පඨවි, ආපො, තේජො, වායො කියන සතර මහා ධාතුව අනිත්‍යය වෙලා ගිහිල්ලා මැරිලා යනවා. හොයාගත්ත ඒවා ඉතින් ලිපිලේඛන විදියට ඉතුරු වෙනවා. ඒ හොයාගන්න මහන්සි වෙච්චි පුද්ගලයා ආයු කෙළවර කරලා මැරිලා යනවා, එච්චරයි වෙන්නෙ. ඒ නිසා හොයන්න කිව්වෙ කුමක්ද, ජීවිතය ගැන. සතර මහා ධාතූන්ගේ පැවැත්ම දුකක් වශයෙන් අවබෝධ වුනාට පස්සෙ මේ තමන්ගේ ශරීරයටත් අපි බැඳෙනවානෙ. මේ පඨවි, ආපො, තේජො, වායො කියන මේ ටිකට අපි බැඳෙනවා මම, මේක මගේ, මේක මට ඕන විදියට පවත්වන්න පුලුවන් කියලා අපි බැඳෙනවා. ඒ නිසානෙ අපි අපිට ඕන විදියට මේක හදාගන්න මහන්සි ගන්නෙ. දැන් පුරුෂයො නම් ඇඟ වඩවාගන්න මහන්සි ගන්නවා, ඇඟේ මස්පිඩු හොඳට මහත් වෙන විදියට, බාහිරට හොඳට පේන විදියට, ඇඟ වඩවගන්න මහන්සි වෙනවා. නොයෙක් කිරි ජාති බොනවා, නොයෙක් ඒවා කනවා. ස්ත්‍රීන් ස්ත්‍රී ලාලිත්‍යයට අනුව ඇඟ හැඩකරගන්න මහන්සි ගන්නවා. ඊළඟට ඡවි වර්ණය වෙනස් කරගන්න මහන්සි ගන්නවා. නොයෙක් දේ. ඉතින් මේවා කතා කරන්න ගියොත් මේකෙ කෙළවරක් නෑනෙ. තමන්ව වෙනස් කරගන්න ලොකු වැයමක්

තියෙනවා. ඇයි හිතක් තියෙනවා තමන්ට තමන්ව වෙනස් කරගත හැක්කේය කියලා එකක්. ඒ නිසා ඉතින් ඒකට වෑයම් කරනවා. ඒ වෑයම් කරන්නෙ මොකෝ තමාට බැලුනු නිසා. ඒක පැහැදිලියි. ඊළඟට තමාගේ මේ සතර මහා ධාතූන් ටිකට විතරක් නෙවෙයි බැඳෙන්නෙ. බාහිර ඒවටත් බැඳෙනවා. ස්ත්‍රියක් පුරුෂයෙක් සමඟ සම්බන්ධ වෙන්නෙ බාහිර ඒකට බැඳිලා. පුරුෂයෙක් ස්ත්‍රියක් සමඟ සම්බන්ධ වෙන්නෙ බාහිරයකට බැඳිලා. තමන් ළඟ සතර මහා ධාතු තිබෙන්නා සේම තමන් පෙම්වතා ස්වාමිපුරුෂයා විදියට තෝරගන්න කෙනා ගාවත් තියෙන්නෙ මොනවාද, සතර මහා ධාතු. ඉතින් බැඳෙනවා. ඒ බැඳිච්ච එක ගැනත් මේක මගේ, මට අයිතියි, මේක මට ඕන විදියට තියාගන්න පුලුවන් කියන එක හිතට එනවා. ඊටපස්සෙ ඒ දෙන්නට දාව දරුවො හටගන්නකොට දරුවො විදියට හටගන්නෙත් පරමාර්ථයක් විදියට බැලුවොත් සතර මහා ධාතු. ඒවටත් බැඳෙනවා. එතකොට බලන්න පින්වතුනි, මේ සතර මහා ධාතුත් එක්ක යන කතන්දරේ දුකක්මනෙ. දුකක්මනෙ. දුකක්මනෙ, ඒක උරුම කරගෙන ඒකට බැඳිලා ගියපු හිත නිසා කොච්චර විඳවිල්ලක්ද. ඉතින් ඒ සතර මහා ධාතූන්ගේ පැවැත්ම ගැන හරියටම දුකක් වශයෙන් අවබෝධ වුනාට පස්සෙ ආයෙමත් ඉතින් ඉපදෙන සංසාරෙට නම් එන්න එපා කියනවා. භවය ගැන තියෙන ආශාව නැති කරගෙන, උපශාන්ත වෙලා - උපශාන්ත සිත කියලා කියන්නෙ කෙලෙස් නැති හිත, උපශාන්ත කියලා කියන්නෙ හොඳටම ශාන්ත වෙලා, හිතක් හොඳටම ශාන්ත වෙන්නෙ කෙලෙස් නැත්නම්. හිතක් ශාන්ත වෙන්නෑ පින්වත්නි කෙලෙස් තියෙනකම්. ඇයි හිතේ තියෙන ශාන්ත භාවය නසනවා මේ කෙලෙස් වලින්. පභස්සර නිදං භික්ඛවෙ චිත්තං මහණෙනි සිත යනු ප්‍රභාෂ්වර දෙයකි. තංචකො ආගන්තුකේහි උපක්කිලේසේහි උපක්කිලිට්ඨං, එනමුදු බාහිරින් පැමිණෙන අකුසල් වලින්, බාහිරින් පැමිණෙන කිලිටි වලින් හිත කිලිටි වේ. ඒක තමයි හැමෝටම වෙන දේ. ඉතින් මේ ගාථාව ඇහුවට පස්සෙ සුමනා තෙරණිය වීර්යය වැඩුවා. රහත් තෙරණින් වහන්සේ නමක් බවට පත්වුනා. තවත් තෙරණින් වහන්සේ නමක් හිටියා, උත්තරා. උත්තරා තෙරණියත් අර ශාක්‍ය හෝ කෝලිය හෝ කුමාරයෙක් එක්ක තමයි හාද වෙලා හිටියෙ, එක්කො බිරිඳ වශයෙන් හිටියේ. කොහොමහරි ඉතින් ඒ ප්‍රිය ස්වාමියා, ප්‍රිය පෙම්වතා තමන්ව දාලා ආවා. ඇයත් පළවෙනි පන්සිය නමත් එක්ක ඇවිල්ලා ඔන්න පැවිදි වුනා. පැවිදි වෙලා ඇය වීර්යය වැඩුවා. වීර්යය වඩලා නොබෝ කලකින්ම අර්හත් උත්තමාවියක් බවට පත්වෙලා ඒ උත්තරා කියන රහත් තෙරණිය පිරිනිවන් පාන මොහොතේ මෙන්න මේ විදියට අනෙක්

භික්ෂුණීන්ට වීර්යය වැඩීම පිණිස අවවාදයක් කරලා තමන් ගැන පවසලා ඈ පිරිනිවන් පෑවා. කායේන සංගුතා ආසිං වාචාය උදචේතසා සමූලං තණ්හං අගුය්හ සීතිබූතං පිනිබුතා, මං කයින් සංවර වුනා. වචනයෙනුත් මං සංවර වුනා. සිතිනුත් සංවර වුනා. තණ්හාව මුලින්ම උදුරලා දැම්මා. සිහිල් වුනා, නිවිලා ගියා. ඒ විදියට තමයි ඒ තෙරණිය ඒ අර්හත් උත්තමාවිය ගාථා වදාළේ. එතකොට බලන්න මේ ප්‍රිය ස්වාමිවරු අහිමිවීමෙන් දුක් විඳිනකොට ඒ දුක අස්සෙ පටලැවී පටලැවී ඉන්නැතිව ඇලා වාසනාවන්ත වුනා දුක් නැසෙන දහම අනුගමනය කරන්න. ඉතින් දුක් නසාගෙන සැනසුනා. තව දුකක් තමයි ස්ත්‍රී ජීවිතයට පුරුෂයෙක් පතනවා. පුරුෂයෙක් පතාගෙන උන්නාට තමන්ට සුදුසු පුරුෂයෙක් හම්බෙන් නෑ. එක්කො තමන් කැමැති පුරුෂයා ලැබෙන් නෑ. එක්කො තමන් කැමැති වෙලා හිටපු පුරුෂයා තමන්ට වංචා කරනවා, ඒ පුරුෂයා චපල වෙනවා, ඒ පුරුෂයා තමාව අත්හැරලා යනවා. තමා විවාහ ජීවිතයකට කැමැත්තෙන් ඉන්නවා. කැමැත්තෙන් හිටියට විවාහ ජීවිතයක් කරා එළැඹෙන්න ලැබෙන් නෑ, ඒක ස්ත්‍රී ජීවිතයට තියෙන තව ශෝකාන්තයක්. එහෙම ස්ත්‍රීන් වර්තමානයේ වුනත් ඉන්නවානෙ. වර්තමානයේ වුනත් සමහර වෙලාවට තරුණ වයසේ විවාහ ජීවිතයකට කැමැති වෙලා හිටපු ස්ත්‍රියක්. ඇයට මොකක් හෝ කාරණාවක් නිසා ඇගේ තරුණ වයසේදී විවාහ වෙන්න සුදුසු කාලයේදී විවාහයකට යොමුවෙන්න බැරිවුනා. ආපහු තමන්ගේ ජීවිතේ ගැන හිත හිතා හූල්ලන ජීවිත කොච්චරද. ඒ හීල්ලීමේ දුකත් ඇතැම් ස්ත්‍රීන් උරුම කරගන්නවා. ඒක ස්ත්‍රී ජීවිතේ තියෙන දුකේ තව පැතිකඩක්. හැබැයි පින්වතුනේ ඒ විදියට විඳව විඳවා නම් ජීවිතේ ගතකරන්නෙ ඒක නිරර්ථක දෙයක්. ඒ වෙනුවට තෝරාගත යුතුයි සැනසෙන්න දහමක්. දැන් එහෙම සිද්ධියක් ගැනයි මේ කතාව. මැගේ නම සුමනා. මැය රාජකීය පවුලක උපන්නෙ. කොසොල් රටේ මහකොසොල් රජ්ජුරුවන්ගේ සහෝදරිය. මේ මහකොසොල් රජ්ජුරුවන්ගේ සහෝදරිය වුනත්, රාජකීය පවුලක වුනත්, රාජකීය ස්ත්‍රියක් වුනත් ඇයට විවාහ ජීවිතයකට එළැඹෙන්න බැරිවුනා. තරුණ වයස ඉක්මවා ගියා, පුරුෂයෙක් විවාහ කරගන්නා වයස අවසන් වුනා. ඇය මහණ වෙලා, දැන් ඇය වැඩිමහල් තැනැත්තියක්. ඒ කියන්නෙ ස්ත්‍රියකගේ විවාහ වීමේ කාල පරාසය ඉක්මවලා ගිහිල්ලා. ඇය හරි කණගාටුවකින් ඒ ගැන හිටියා. ඇයට හිතේ කිසි ශාන්තියක් තිබුනෙ නෑ. පස්සෙ ඇය කොසොල් රජ්ජුරුවොත් එක්ක දවසක් භාග්‍යවතුන් වහන්සේ බැහැදැකීම පිණිස සැවැත් නුවර ජේතවනාරාමෙට යාමේ වාසනාව ලැබුනා. එදා කොසොල් රජ්ජුරුවො රාජකීය

පිරිසත් එක්ක තමයි සැවැත්නුවරට ගියෙ. ඉතින් ඒ වෙලාවේ ඇයත් මේ පිරිසේ හිටියා. කොසොල් රජ්ජුරුවො එදා භාග්‍යවතුන් වහන්සේත් එක්ක මේ විදියේ දහම් කතාවකට එළඹුනා. රජ්ජුරුවො ඒ වෙනකොට භාග්‍යවතුන් වහන්සේ ගැන ලොකු ප්‍රසාදයකින් ඉඳලා නෑ. මේ දහම් කතාව අහද්දි අපිට ඒක තේරෙනවා. මොකද භාග්‍යවතුන් වහන්සේව ආමන්ත්‍රණය කරන්නෙ ස්වාමීනී කියලා නෙවෙයි, භවත් කියලා. ඒ වෙනකොට පැහැදිලා හිටියෙ නෑ. භවන්තිනො ගෝතමො අනුත්තරං සම්මා සම්බෝධිං අභිසම්බුද්ධෝති පටිජානාති. භවත් ගෞතමයන් වහන්සේ පවා අනුත්තර වූ සම්මා සම්බුද්ධත්වය අවබෝධ කරපු කෙනෙක් කියලා තමන්ව හඳුන්වනවාද? එහෙම ඇහුවා රජ්ජුරුවො. භාග්‍යවතුන් වහන්සේ වදාළා යං හිතං මහාරාජ සම්මා වදමානො වදෙය්‍ය, මහාරාජය යම් කෙනෙකුට නියමාකාරයෙන්ම කියනවා නම්, අනුත්තරං සම්මා සම්බෝධිං අභිසම්බුද්ධොති, අනුත්තර වූ සම්මා සම්බුද්ධත්වය සාක්ෂාත් කළ කෙනා කියලා, මමං තං සම්මං වදමානෙ වදෙය්‍ය, මහරාජය මටයි කිවයුත්තේ. අහං හි මහාරාජ අනුත්තරං සම්බුද්ධං සම්මා සම්බෝධිං අභිසම්බුද්ධෝති, මහාරාජයෙනි මම තමයි අනුත්තර වූ සම්මා සම්බෝධිය සාක්ෂාත් කරපු සම්බුදු රජුන්. බුදුරජාණන් වහන්සේ එහෙම වදාළා. එහෙම වදාරනකොට රජ්ජුරුවො සතුටු වුන් නෑ. ඇයි රජ්ජුරුවො බලාපොරොත්තු වෙච්චි උත්තරේ නෙවෙයි මේක. මොකද මේ රජ්ජුරුවන්ට වැරදි ප්‍රකාශයක් ගිහින් තිබුනා, බුදුරජාණන් වහන්සේ තමන් ගැන මම බුදු කෙනෙක්, බුදු කෙනෙක් කියලා නිකං අර මවාගත්ත එකක් කියනවා කියලා. රජ්ජුරුවො ඒ නිසා තමයි මේක ඇහුවෙ. රජ්ජුරුවන්ගේ කන් දෙකට ඒකම අහන්න ලැබුනා, රජ්ජුරුවො ලොකු සතුටකට පත්වුන් නෑ, රජ්ජුරුවො මෙහෙම කියනවා. ඇ භවත් ගෞතමයෙනි, බොහෝ ශ්‍රාවක පිරිස් ඉන්න, බොහෝ පැවිදි පිරිස් ඉන්න, තම පිරිසට ආචාර්‍ය්‍ය වූ ප්‍රසිද්ධ වූ කීර්තිමත් වූ ආගමික මත කියාගෙන යන ගොඩාක් ජනයා අනේ හොඳ කෙනෙක් කියලා සාදු සම්මත කරගත්තු ශ්‍රමණවරු ඉන්නවා. පූර්ණ කස්සප, මක්ඛලීගෝසාල, නිගණ්ඨනාතපුත්ත, සංජයබෙල්ලට්ඨිපුත්ත, පකුධකච්චායන, අජිතකේසකම්බල ආදී. මේ කවුරු ගැනද කිව්වේ හයේ කල්ලිය ගැන. ඒ කාලෙ හිටියානෙ ෂඩ්ශාස්තෘවරු. ඔය ෂඩ්ශාස්තෘවරු ගැන කිව්වා. ඉතින් මෙහෙම ප්‍රසිද්ධ කාණ්ඩයක් ඉන්නවා. ඒ අය ඔබවහන්සේ වගේ නෙවෙයි, ඒ අය වයසයි. ඒ වයෝවෘද්ධ අයවත් කියන් නෑ මම සම්බුදු කියලා. ඔබවහන්සේ මේ තරුණ වයසේ, තාම ඔබවහන්සේ නවකයෙක්, පැවිද්දෙනුත් අලුත්. ඔබවහන්සේ

තමන් ගැන කියනවානෙ සම්බුදු කියලා. එතකොට භාග්‍යවතුන් වහන්සේ රජ්ජුරුවන්ට මේ කාරණය පහදනවා. බුදුරජාණන් වහන්සේ වදාළා, චත්තාරො කො මෙ මහාරාජ ධාරාතින වුඤ්ඤාතබ්බා, ධාරාතින පරිභෝතබ්බා, මහාරාජය, ළදරුයි කියලා ළපටියි කියලා පරිභව නොකළ යුතු, අවමන් නොකළ යුතු, නොසළකා නොහැරිය යුතු තැන් හතරක් තියෙනවා. ඒ තැන් හතර ළපටියි, බාලයි, පොඩියි කියලා මඟහරින්න හොඳ නෑ. අවමන් කරන්න හොඳ නෑ. මොනවද ඒ හතර? තතියකො මහාරාජ ධාරොතින වුඤ්ඤාතබ්බො ධාරොතින පරිබොතබ්බො, මහාරාජය රාජවංශික කුමාරයා පොඩි එකෙක් කියලා හෑල්ලු කරන්න හොඳ නෑ. රාජවංශික කුමාරයා පොඩිය කියලා පරිභව කරන්න හොඳ නෑ, මොකද රාජවංශිකයා. රාජවංශිකයා හැමදාම පොඩිවට ඉන්නෑ, ලොකු වෙනවා. රජකුමාරයෙකුට පරිභව කරන්න ගිහිල්ලා රජකුමාරයෙකුට නොකටයුතු කම් කරන්න ගිහිල්ලා නොසළකා හැරලා රජ කුමාරයා වෛරයක් බැඳගත්තොත් රජ වෙච්චි දවසට වැඩේ බලාගන්න ඕන. ඇයි රාජවංශිකයාට රාජ්‍යය උරුමයි. ඔහු රජ වෙච්චි දවසට තමන්ට කෙණෙහෙළිකම් කරපු කෙනාට බලය ලැබිච්චි ගමන් පෙරලා දඬුවම් කරනවා. අන්න ඒ නිසා රාජවංශිකයා පොඩියි කියලා හෑප්පෙන්න යන්න හොඳ නෑ. ඊළඟ එක තමයි කියනවා උරඟයා, උරඟයා කියලා කියන්නෙ නාගරාජයා මෙහි කියන්නෙ. උරඟ රාජයෙක්, නාගයෙක් නයි පැටවෙක් කියලා, පුංචි නයි පැටියෙක්ය කියලා ඒ නයි පැටියව හෑල්ලු කරලා හිතන්න හොඳ නෑ කියනවා. මොකද, මහා තේජස් ඇති නාගරාජයො ඉන්නවා කියනවා නයි පැටවුන්ගේ වෙස් අරන්. තේජස් ඇති නාගරාජයො, මේක පින්වතුනේ භාග්‍යවතුන් වහන්සේ තුන්ලොවම අවබෝධ කරපු පෙනෙන නොපෙනෙන ලෝකෙ ගැන දන්න ශාස්තෲන් වහන්සේ වදාරන එකනෙ. දැන් අද කාලෙ ඇතැම් හිස් පුද්ගලයන්ට භාග්‍යවතුන් වහන්සේගේ බුද්ධ භාෂිතය පිළිගන්න බැරි අයට, ඒ අය මේ නාගලෝක ආදී මේවා පිළිගන්නෑනෙ. ඒ පිළිගන්නේ නැති අය පිළිගන්නේ නෑ කියන එක අපිට අදාළ කාරණාවක් නෙවෙයි. අපි ශ්‍රද්ධාවෙන් අදහාගත යුතු දෙයක්. මේ නාගලෝකයේ නාරජ වරු ඉන්නවා. ඒ නාරජ වරු පින්වතුනේ ඇතැම් වෙලාවට මේ මනුස්ස ලෝකෙට එනවා නයි වෙස් අරගෙන. සාමාන්‍ය නයාගේ වේශයෙන් එනවා. එතකොට මේ අපිට දකින්න ලැබෙන සියලු නයි වෙස් ගත්ත අය නෙවෙයි. නමුත් එහෙම වෙස් ගත්ත නයි ඉන්නත් පුලුවන්. එහෙම වෙස් ගත්ත නාගයෙකුට එහෙම නයි පැටවෙක් කියලා නිකං අවමං කරන්න ගියොත් කරදර කරන්න ගියොත් ඒ නාගයාට කිපිලා අර

මනුස්සයාව නසන්න පුලුවන් කියනවා. ඒ නිසා නයි පැටියාට පුංචියි කියලා නයි පැටියත් එක්ක ගැටෙන්න යන්න එපා. ඊළඟට, අග්ගික්කො මහාරාජ, මහාරාජයෙනි, ගින්න. ගින්න පුංචියි කියලා හිතන්න එපා කියනවා කවදාවත්. ගින්න පොඩි වුනාට ඒ ගින්නට ඇවිලෙන්න ඕන කරන හේතුකාරක ලැබිච්චි ගමන් ඒ ගින්නට පොඩි වෙලාවයි යන්නෙ කියනවා මහා ගින්නක් බවට පත්වෙන්න. ඒ නිසා ගින්න නොසළකා හැරියොත් මේක පොඩි එකක් කියලා ඒ ගින්න මහා ගින්නක් බවට පත්වෙලා නොසළකා හරපු ස්ත්‍රිය හෝ පුරුෂයාවත් දවන්න පුලුවන් කියනවා. ඒ නිසා ගින්නත් නොසළකා නොහැරිය යුත්තේය. ඊළඟ කෙනා කවුද, භික්ෂුව. භික්ෂුව කවදාවත් පුංචියි කියලා නොසළකා හරින්න එපා. අගෞරව කරන්න එපා, පරිභව කරන්න එපා. හේතුව ඒ භික්ෂුව බාහිර පෙනුමින් පුංචි කෙනෙක් වුනාට අභ්‍යන්තරයේ වැඩ ඉන්න පුලුවන් මහා ගුණවතෙක්. සම්බුද්ධ ශාසනයේ එහෙම හිටියනෙ පින්වතුනේ. අවුරුදු හතේදී රහතන් වහන්සේලා වැඩ හිටියානෙ. බාහිරින් බලපුවාම පුංචි ළමයෙක්. හැබැයි අභ්‍යන්තරයේ වැඩ ඉන්නෙ මේ තුන්ලොවේ යම්තාක් සත්වාග්‍රයො ඇත්ද, යම්තාක් භවාග්‍රයො ඇත්ද, ඒ සියල්ලට ඉහළින් ඉන්න කෙනෙක්. රහතන් වහන්සේ නමක්. ඉතින් කොහොම හොයන්නද. අන්න ඒ නිසා භික්ෂුවක් ගැනත් තරුණයි හෝ පුංචියි හෝ ළපටියි කියලා හෝ එහෙම හිතන්න හොඳ නෑ. එහෙම හිතන පුද්ගලයාට ඒ හේතුවෙන් බලවත් පාප කර්ම වුනත් සිද්ධ වෙන්න පුලුවන් කියලා මෙහෙම අර්ථය පැහැදුවා. අර්ථය පහදපු ගමන් රජ්ජුරුවන්ගේ හිත පැහැදුනා. එතකොට කොසොල් රජ්ජුරුවො පැහැදිච්චි දේශනාව තමයි මේක. මේ දේශනාව අවසන් වෙනකොට කොසොල් රජ්ජුරුවොත් ඒ පැමිණි රාජකීය පිරිසත් බුදුරජාණන් වහන්සේව සරණ යනවා. ඔන්න බලන්න භවත්, භවත් කියලා කතා කරපු රජ්ජුරුවො දැන් කියනවා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, අච්චරියං, ආශ්චර්‍යයියි. අද්භූතං භන්තෙ. ස්වාමීනී අද්භූතයි. යාවන්චිතං භන්තෙ, ස්වාමීනී මේක හරියට යටිකුරු වෙලා තිබ්බ එකක් උඩුකුරු කලා වගේ. පටිච්චන්නං වා විවරෙය්‍ය, වැහිලා තිබ්බ එකක් ඇරලා පෙන්නුවා වගේ. මූලස්සවා මග්ගං ආචික්ඛෙය්‍ය, මංමුලා වෙච්චි කෙනෙකුට පාර පෙන්නුවා වගේ. අන්ධකාරේ වා තේලපජ්ජෝතං ධාරෙය්‍ය චක්ඛුමන්තො රූපානි දක්ඛින්තේති, අඳුරේ ඉන්න පුද්ගලයන්ට රූප බලාපල්ලා කියලා පහන් දැල්වූවා වගේ. ස්වාමීනී හරී ලස්සනට බුදුරජාණන් වහන්සේ අර්ථය කියාදුන්නා, ධර්මය කියාදුන්නා. මමත් අද පටන් භාග්‍යවතුන් වහන්සේ සරණ යමි, ධර්මය සරණ යමි, සඟරුවන

සරණ යමි. මාව දිවි ඇතිතෙක් උපාසකයෙකු ලෙස දරාගන්නා සේක්වා. රජ්ජුරුවො සරණ ගියා, රජ්ජුරුවන්ගේ රාජකීය පිරිසත් සරණ ගියා. ඒ අතරේ හිටපු සුමනාදේවිත් සරණ ගියා. එතකොට ඒ සරණ යෑමත් එක්ක, ඒ සරණ ලැබීමත් එක්ක අර සුමනාදේවියට තරුණ වයසේ විවාහවෙන්න නොලැබුනානේ කියලා තිබුනා නම් සන්තාප ඒවා නැතිව කෙනෙක් වුනා, සඟරුවන ගැන සිහි කරන කෙනෙක් වුනා. නිතර බණ අහන කෙනෙක් වුනා, අහන බණ පුරුදු කරන කෙනෙක් වුනා, ජීවිතේ සැනසුනා. ඒ නිසා ඔන්න ඔය ප්‍රශ්න වලින් විඳව විඳව ඉන්නවා නම් හොඳ උත්තරයක්, ඒවා අමතක කරන්න. බුදුරජාණන් වහන්සේ ගැන, ධර්මය ගැන, සඟරුවන ගැන හිතන්න, ධර්මය ඉගෙන ගන්න, ඒවා ගැන ආසාවෙන් බණ අහන්න, අහන බණ හොඳට මතක තියාගන්න, ඒ බණ නිතර නිතර මෙනෙහි කරන්න, ධර්මයෙන් සතුටු වෙන්න. මේ සන්තාප ගැනම හිත හිත ඉන්න ගියොත් පින්වතුනි කම්කටොළු ගැනම හිත හිත ඉන්න ගියොත් කම්කටොළු පිරිච්ච සංසාරයේ අපිට ඒවාගෙම පටලැවෙන්න සිද්ධ වෙනවා, අපිට නිදහසක් නම් නෑ. එතකොට මේ සුමනා දේවිය, ඔය විදියට ධර්මයේ හැසිරෙද්දි රජ මන්දිරේ, ඇගේ නුවණ තියුණුයි. ඇය අනුක්‍රමිකව මාර්ග ඵල සාක්ෂාත් කලා, සෝවාන් වුනා, සකදාගාමී වුනා, අනාගාමී වුනා. අනාගාමී සුමනා දේවිය මේ බුද්ධ ශාසනයට පැමිණිලා පැවිදි වෙන්න තීරණය කලා. ඒ පැවිදි වෙන්න තීරණය කරනකොට ඉතින් කොසොල් රජ්ජුරුවන්ගේ රාජකීය පරපුරේ කෙනෙක්. ඇත්තටම රාජකීය දේවියක්. රජ්ජුරුවො මහා රාජකීය පෙරහැරකින් මෙහෙණවරට අරගෙන ඇවිල්ලා ඇයව පැවිදි කලා. පැවිද්දට පත්වෙච්චි මේ තෙරණිය බුදුරජාණන් වහන්සේ සමීපයට අවවාද ලබාගන්න එනකොට භාග්‍යවතුන් වහන්සේ මෙහෙම අවවාදයක් ඇයට කලා. සුඛං ත්වං වුඩ්ඪිත්තේසේහි කත්වා චෝලේන පාරුතා උපසන්තෝ හිතේ රාගෝ සීතිභූතා සිනිබ්බුතාති, පින්වත් වැඩිමහළු තැනැත්තිය, පාංශුකූල රෙදි වලින් මසාගත්ත සිවුරු පොරවාගෙන සුවසේ සැතපෙන්න. ඔබගේ රාගය සංසිඳිලා තියෙන්නෙ. ඒ නිසා සිහිල් වෙලා නිවී යන්න. ඔබගේ රාගය සංසිඳිලා තියෙන්නෙ, ඇයි එහෙම කිව්වෙ? ඇය අනාගාමීයි. අනාගාමී වෙනකොට ඒ අනාගාමී කෙනාගේ ජීවිතේ සංයෝජන ධර්ම පහක් නෑ. සක්කාය දිට්ඨිය නෑ, විචිකිච්ඡාව - සැකය නෑ, සීලබ්බත පරාමාසය නෑ, කාමරාගය නෑ, පටිගය නෑ. ඒවා කැඩිලා. ඕරම්භාගිය සංයෝජන සියල්ල කැඩිලා. එතකොට රාගය සංසිඳිලා තියෙද්දි තමයි ඈ බුද්ධ ශාසනේ පැවිදි වුනේ. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා දැන් ඉතින් වැඩිමහළු

තැනැත්තිය, පාංශුකූල රෙදි වලින් මසාගත්ත සිවුරු පොරවාගත්තහම ඔබට හිටියාට වඩා සැපයි. මොකක්ද පින්වත්නි, පාංශුකූල රෙදි වලින් සකස් කරගත්ත සිවුර පොරවග්තතහම තියෙන සැපය? සාමාන්‍යයෙන් මේ චීවරය කියන එක තනි වස්ත්‍රයකින් සකස් කරන් නෑ, තනි වස්ත්‍රයකින් සකස් නොකරන්න හේතුව, තනි වස්ත්‍රය කියන එක තනි රෙද්දි කියන එක වටිනාකමින් අග්‍රයි. රෙද්දක් තනියෙන් තියෙනවා කියලා කියන්නෙ පින්වතුනි ඒක වටින එකක්. ඉතින් භික්ෂූන් වහන්සේලා තනි රෙද්දක් පොරවාගෙන වනයේ වාසය කරද්දි හොරු ඒ රෙද්ද වටින නිසා ඒ රෙදි හොරකම් කලා. එතකොට තමයි බුදුරජාණන් වහන්සේ දේශනා කලේ පින්වතුනේ, මහණෙනි තනි රෙද්දක්, වටිනා රෙද්දක් පොරවන්න එපා, ඒ රෙද්ද කඩ කපන්න. රෙද්දෙ කඩ කැපුවට පස්සෙ පුංචි පුංචි කෑලි වලට ඒ රෙද්දේ තියන වටිනාකම නැතිව යනවා. එතකොට හොරෙකුට ගත්තා කියලා ඇති පලක් නෑ. ඒ රෙද්ද මිල කරන්න බෑ. ඇයි ඒ රෙද්ද කෑලි කෑලි කපපු එකක්. පාංශුකූල වස්ත්‍රය කියලා කියන්නෙ ඊටත් වඩා නොවටිනා එකක්. මොකද මිනිස්සු අහක දාපු රෙදි කෑලි වලින් තමයි ඒ සිවුර සකස් කරගන්නෙ. ඒ සිවුර පොරවාගෙන යද්දි ඒ සිවුර ගතදවටාගෙන ඉදීමේ අර්ථය උදෙසා විතරයි ඒ වස්ත්‍රය තියෙන්නෙ. විලි වහගන්න. ඒ ඇරෙන්න ඒකෙන් කිසිම වටිනාකමක් නෑ, ඇත්තටම මේ ලෝකෙ තියෙන වටිනාම වස්ත්‍රය, මේ ලෝකෙ තියෙන වටිනාම වස්ත්‍රය, දෙවිවරුත් වදින වස්ත්‍රය, දෙවිවරුත් වදින වස්ත්‍රය චීවරය. නමුත් ඒක මේ සාමාන්‍ය ලෝකයේ, මේ සාමාන්‍ය ජනයාගේ ලෝකයේ කාමයත් එක්ක සතුටු වෙන ලෝකයේ ගත්තහම ඒකෙ කිසිම වටිනාකමක් නෑ, ඉතින් ඒ නිසා රාජකීය වස්ත්‍ර පෙරවූ, වටිනා වස්ත්‍ර ඇන්ද ඔබට ඊට වඩා සැපයි කිව්වා මේ පාංශුකූල රෙදි වලින් මසාගත්ත සිවුර පෙරවීම. ඉතින් තවදුරටත් සිහිල් වෙලා නිවිලා යන්න කියලායි භාග්‍යවතුන් වහන්සේ අවවාද කලේ. ඒ සුමනා කියන භික්ෂුණිය ඇත්තටම නොබෝ කලකින්ම සම්පූර්ණයෙන් නිවී ගියා, අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. ඊළඟට මේ ස්ත්‍රී ජීවිතය ගත්තහම පින්වතුනි තව දුක්ඛාන්තයක්, තවත් පැත්තක්, දැන් හොඳට හිටපු පුරුෂයො නැතිව ගියාම එක දුකක් තියෙනවා. ඊළඟට පුරුෂයො පතාගෙන ඉදලා ඒ පුරුෂයන් නොලැබෙනකොට තව දුකක් තියෙනවා. විවාහ ජීවිතයකට ආසාවෙන් ඉන්න අයට විවාහ වෙන්න නොලැබෙද්දි තව දුකක් තියෙනවා. ඊළඟ එක තමයි විවාහයට තෝරගත්ත පුරුෂයා සමහර වෙලාවට හරි දරදඬු කෙනෙක්. නීතිරීති බහුල කෙනෙක්. අන්න ඒ නිසා ස්ත්‍රියට දුක්ඛාන්තයක් උරුම වෙනවා.

ඇතැම් ස්ත්‍රීන්ට එහෙම නීති බහුල පුරුෂයොත් එක්ක විවාහ වෙන්න සිද්ධ වෙනවා. ඒ විවාහය නිසා තමන්ගේ ජීවිතය විවාහය නිසාම දුකට වැටෙනවා. දැන් එහෙමත් භික්ෂුණීන් වහන්සේලා දෙනමක් ගැන මේ ථෙරී ගාථා පොත් වහන්සේගේ සඳහන් වෙනවා. ධම්මා තෙරණිය. ධම්මා තෙරණිය කියලා කියන්නෙ පින්වත්නි, සැවැත්නුවර උපන්න කෙනෙක්. ඒ සැවැත්නුවර ඉපදිලා තරුණ වයසේදී ඈ විවාහ වුනා. විවාහ වුනාට පස්සෙ තමයි ඈ සැවැත්නුවර දැන් බණ දහම් අහන්න පටන් ගත්තෙ. මෙහෙණි ආරාමයට යනවා නිතර බණ අහනවා. ඒ බණ අහනකොට, අහනකොට ඇට ධර්මයේ හැසිරෙන්න ලොකු ආසාවක් ආවා. කොටින්ම පැවිද්දටම ආස හිතුනා. ස්වාමි පුරුෂයාගෙන් පැවිද්දට අවසර පැතුවා. පැවිද්දට අවසර පතද්දි මේ ස්වාමිපුරුෂයා හරී දරදඬු වුනා. හරි සැරපරුෂ වුනා. මං ජීවත් වෙලා ඉන්නැද්දි නම් උඹට මහණ වෙන්න දෙන්නෑ කියලා තහනම් කලා. ඉතින් ඈ බොහෝම දුකසේ, ඈ ස්වාමියාටත් හොරෙන් හීන්සීරුවේ බණ අහන්න යනවා, ස්වාමිපුරුෂයාට හොරෙන් ධර්මය පුරුදු වෙනවා, ඔහොම ඉඳලා ඉඳලා ගොඩාක් වයසට ගියා. වයසට ගිහිල්ලා ඒ මනුස්සයා මළාට පස්සෙ තමයි ඇයට මහණ වෙන්න ලැබුනෙ. ඔහු මිය යනකල්ම ඇයට බැරිවුනා පැවිද්දට අවසරයක් පතාගන්න. ස්වාමිපුරුෂයා මියගියාට පස්සෙ ගොඩාක් වයෝවෘද්ධ වෙලා ඈ බුද්ධ ශාසනයේ පැවිදි වුනා. බුද්ධ ශාසනයේ පැවිදි වෙච්චි ඇයට මේ ශරීර කූඩුවේ ඇත්ත ගැන විමසද්දි, නුවණ මෝරා ගිහිල්ලා අර්හත් උත්තමාවියක් බවට පත්වුනා, ඒ ගැන මෙහෙමයි ථෙරී ගාථාව කියන්නෙ. මං හිටියෙ ගොඩාක් දුර්වල වෙලා. හැරමිටියෙ එල්ලීගෙන පිණ්ඩපාතෙ වඩිනකොට මගේ අත්පා වෙව්ලනවා. ඉතින් මාව එතනම බිම වැටුනා. ඒ වෙලාවේ මේ ශරීරයේ ආදීනව හොඳට ප්‍රකට වුනා. මගේ සිත කෙලෙසුන්ගෙන් නිදහස් වුනා. සාමාන්‍යයෙන් තරුණ කාලෙ මේ ශරීරය අපි මේ ශරීරය දිහා කණ්ණාඩියෙන් බල බල සතුටු වෙනවා. මේ ශරීරයේ නොයෙක් නොයෙක් ආකාරයෙන් සැරසිලි කරලා අපි පාරට බැහැලා යනවා දැන් නම් මං හරි හැඩයි, දකින අයට ආසා හිතෙයි කියලා. අපි ඒ ශරීරයෙන් සතුටු වෙවී ඉන්නෙ අපි බොහොම ටික කාලයයි. අවසානයේ මේ ශරීරය අපිටම නඩත්තු කරගන්න බැරිව යනවා. මේ ශරීරය වැහැරෙන වැහැරිල්ල අපිටම ඔරොත්තු නොදී යනවා. මේ ශරීරය දුර්වල වෙන දුර්වල විල්ල අපිටම ඔරොත්තු දෙන්නැතිව යනවා. අවසානයේ කෙළින් හිට ගන්න බෑ. ඇදගෙන වැටෙනවා. ඇයට ශරීරයේ ඇත්ත ප්‍රකට වුනා. ඒ තුළින්ම සියලු කෙලෙස් නසා අර්හත් තෙරණියක් බවට පත්වුනා. සංඝා කියන තෙරණියගේ

සිද්ධියත් ඔන්න ඔය වගේ එකක්. ධම්මා තෙරණියගේ සිදුවීමට සමානයි. ඒ සංඝා තෙරණියටත් වුනේ ඇගේ ස්වාමිපුරුෂයා දැඩි තීරණ ඇති කෙනෙක්. දුන්නෙ නෑ ඇයට මහණ වෙන්න. ඊටපස්සෙ ඉතින් ස්වාමිපුරුෂයා මිය යනකන් ඉඳලා ඇය තමන්ගේ දූදරුවන් අත්හැරලා ඇවිල්ලා ඇය පැවිදි වුනා. ස්වාමිපුරුෂයා මිය යන කාලෙ එනකොට දූදරුවන්ටත් වෙන්න ඕන දායාද බෙදාදීම් ආදිය ඔක්කොම වෙලා. ඇ පැවිදි වුනා. පැවිදි වෙලා අර්හත්වයට පත්වෙච්චි ඇය මෙන්න මේ ගාථා වදාළා. මං ප්‍රියමනාප දූදරුවන් අත්හැරියා, හරකාබාන අත්හැරියා, ගිහිගෙදර අත්හැරියා, මහණ වුනා. අන්තිමේදී රාග, ද්වේෂත් අත්හැරියා. අවිද්‍යාවත් නැති කලා. තෘෂ්ණාව මුලින්ම උදුරලා දැම්මා. උපශාන්ත වුනා, නිවුණු කෙනෙක් බවට පත්වුනා කියලා ඒ අර්හත් උත්තමාවිය ගාථා වදාළේ. ඉතින් අද දවසේ අපි ඒ උතුම් රහත් තෙරණිවරුන් කීප නමකගේම ගාථා ඉගෙන ගත්තා. රහත් තෙරණිවරු හය නමක් මුල් කරගෙන ඒ සුන්දර අදහස්. ඉතින් ඒ ජීවිත වල අපි ධර්මය තුළට පැමිණෙන්න පෙර තිබුනු ශෝකාන්ති දැනගත්තා. ඒ ශෝකාන්ති පින්වතුනේ වර්තමානයේ වුනත් අපේ ජීවිතවලට එක එක මට්ටම් වලින් තියෙනවා. විශේෂයෙන්ම මේ ස්ත්‍රීන්ගේ ජීවිත ගත්තොත්, කාන්තාවන්ගේ ජීවිත ගැන කල්පනා කරනකොට මේ අද අපි පැහැදිලි කරගත්ත ශෝකයන් යම් යම් ප්‍රමාණ වලට එක එක කාන්තාවන්ගේ ජීවිත වල ඇති. මේ ශෝක, මේ සන්තාප මේ ගිනි ඔක්කොම යම්තැනක සංසිදෙනවා නම් ඒ බුද්ධ ශාසනය බව අපිට මේ ගාථා අහනකොට හොඳට තේරෙනවා. ඒ නිසා බුදු සසුන මුණගැහිච්ච ජීවිතේ ඒ බුදුසසුනටම ඇළුම්කරන්න. බුද්ධ ශාසනයටම ආශා කරන්න. බුදුරජාණන් වහන්සේගේ ධර්මයම අනුගමනය කරන්න. ඒ ධර්මය අනුගමනය කොට අමා නිවනේ සැනසුනු ඒ අර්හත් උත්තමාවියන්ට නමස්කාර කරමින් අපි පුණ්‍ය ප්‍රාර්ථනා එක් කරමු අපිටත් ඒ රහත් තෙරණිවරු, රහතන් වහන්සේලා නිවී සැනසුනු අමා නිවනේ සැනසෙන්න ලැබේවා, සාදු සාදු සාදු!!!

අප රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් සියලු දෙවියෝ සතුටින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන් වෙන දෙවිවරු දිව්‍ය සැපයෙන් වැඩේවා, ඒ දෙවියෝ අප හැමදෙනාවම ආරක්ෂා කරත්වා. සාදු සාදු සාදු!!! රැස් කළ සියලු පුණ්‍ය ධර්මයන් ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව, නිරෝගීව දීර්ඝායුෂ ලබත්වා. මේ ගෞතම ශාසනය තුළ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරගැනීමේ වාසනාව ලබත්වා.

සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් වයස 65 ක් ආයු වළඳා 2021 මාර්තු මාසයේ පළමුවෙනි දින මියපරලොව යන්න යෙදුනු කඩුවෙල ජාතික ඉතිරිකිරීමේ බැංකුවේ විශ්‍රාමික සහකාර කළමණාකාර විදියට කටයුතු කරපු පින්වත් දයාසිරි සුදුසිංහ මහතාට මේ සියලු පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. මීට තුන් මසකට පෙර මියගිය එතුමාටත් අද දායකත්වය දරන හැමදෙනාගේ නමින් මියපරලොව යන්න යෙදුනු සියලු ඥාතීන්ටත් පින් අනුමෝදන්ව ඥාතීන්ගේ පරලොව ජීවිතය ඒකාන්ත වශයෙන් සැපයට පත්වෙත්වා. අපගේ ඥාතීන් මේ දුක් සහිත වූ සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනාව සිදු කරන්න. රැස් කල සියලු පුණ්‍ය ධර්මයෝ අද දායකත්වය දරන කඩුවෙල ඉහළ ගෝමිරිය සාරභූමි උද්‍යානයේ අංක 9 නිවසේ පදිංචි පින්වත් විශ්‍රාමික ගුරු එන්. පද්මිණී සුදසිංහ මැණියන්ට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. තිළිණි, ගයනි, වරුණි යන දියණිවරුන්ට පින් අනුමෝදන් වෙත්වා. බෑණාවරුන්ට පින් අනුමෝදන් වෙත්වා. සහෝදරයන්, ඥාති හිතමිත්‍රාදීන් සියලු දෙනාට පින් අනුමෝදන් වෙත්වා. ධර්ම දානය සිදු කරපු ඒ සුපින්වතුන්ලාට පින් අනුමෝදන් වෙලා ඒ පින්වතුන්ලාගේ රැකී රක්ෂා ආදී කටයුතු, දූදරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදී මේ සියලු යහපත් දේ සර්වප්‍රකාරයෙන්ම සඵල වෙත්වා. ඒ ජීවිත වලට දියුණුවම උදාවෙත්වා. ඒ පින්වත් හැමදෙනාටත්, ශ්‍රද්ධා මාසික ධර්මදාන සාමාජික පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා කාර්යමණ්ඩලයේ හැමදෙනාටත්, සුපින්වත් ඔබ සැම සියලු දෙනාටත්, කල්‍යාණ මිත්‍ර ඇසුරේ සුවසේ පින් පුරාගෙන සුවසේ ගුණධර්ම දියුණු කරගෙන ගෞතම ශාසනයේ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්න වාසනාව ලැබෙත්වා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=QHiUTPX5WfA

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදු සාදු සාදු!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද දවසේ මේ උතුම් දේශනාවට දායකත්වය දරනු ලබන්නේ ඔස්ට්‍රේලියාවේ උසස් අධ්‍යාපනය හදාරන පින්වත් දියණියක් විසින්. ඒ දියණිය මේ ධර්මදානමය පින සිද්ධ කරන්නෙ තමන්ගේ නමින් මියගිය ඥාතීන්ට පින් අනුමෝදනා කරන අදහසින්. සුජීවත්ව සිටින දෙමව්පියන් ඇතුළු පවුලේ හැමදෙනාට සෙත් ප්‍රාර්ථනා කරන අදහසින්. ඒ වගේම තමන්ගේ ඔස්ට්‍රේලියාවේ සිට සිදු කරන අධ්‍යාපන කටයුතු සර්වප්‍රකාරයෙන් සාර්ථක කරගන්න මේ පින හේතුවේවා කියන අදහසිනුයි, අද ධර්ම දානමය පින්කම සිද්ධ කරන්නෙ. අද දවසේ ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු මේ ධර්ම දේශනාවෙන් අපි ඉගෙන ගන්නේ අභිරූපීනන්දා කියන අර්හත් උත්තමාවියගේ චරිතාපදානය. අභිරූපීනන්දා, මේ අභිරූපීනන්දා තෙරණියගේ චරිතාපදානයෙන් ජීවිතයට පින්වතුනි ඉගෙන ගන්න ගොඩාක් දේවල් තියෙනවා. අභිරූපීනන්දා තෙරණියගේ චරිතාපදානයේ සඳහන් වෙන්නේ අපේ අට්ඨකතාවේ, මීට අනූඑක් කල්පයකට ඈත සිට. මීට කල්ප අනූ එකකට පෙර මේ ලෝකයේ පහළ වුනා විපස්සී අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ. විපස්සී බුදුරජාණන් වහන්සේ පහළ වෙලා ඒ කාලයේ සද්ධර්මය දේශනා කරනවා. ඒ කාලයේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ වැඩ හිටපු විහාරය, මූලිකව විහාරය තිබුනෙ බන්ධුමතී කියන නගරයේනෙ. ඔය බන්ධුමතී නගරයේ බන්ධුම කියලා ක්ෂත්‍රිය බ්‍රාහ්මණයෙක් හිටියා. ඒ ක්ෂත්‍රිය බ්‍රාහ්මණයාගේ බිරිඳ ලෙසයි මෑ හිටියේ. මේ බන්ධුම කියන ක්ෂත්‍රිය බ්‍රාහ්මණතුමා බුදුරජාණන් වහන්සේ කෙරෙහි හරී පැහැදිලා නිතර බණ අහන්න යනවා. ඔහු නිතර බණ අහන්න යනකොට මේ බැමිණියත්, මේ කාන්තාවත් බණ අහන්න යනවා. ඉතින් ඒ බණ පද අහනකොට අහනකොට මේ ජීවිතේ ගැන නොදත් කාරණා ගොඩාක් ඇයටත් අහන්න ලැබුනා. ඇසූ කාරණා ඇ හොඳට හිතේ දරාගත්තා. දරාගෙන ඉතින් සාමාන්‍ය විදියට ජීවිතේ ගත කරන ගමන් ඇය ඔය ධර්ම කාරණා සිහි කරනවා, හිතනවා. එව්වා මතක් කර කර ඒවා හිත හිත තමයි ඇය ටික ටික ධර්මය පුරුදු කරන්න මහන්සි ගත්තෙ. ඉතින් ජීවිතයේ අනිත් කටයුතුත් කරන අතරේමනෙ මේ ධර්ම

මනසිකාරය. ඉතින් දවසක් ඇයට යෙදුනා කියනවා ටිකක් දුර ඈතක හිටපු ඥාතීන් පිරිසකගේ මංගල්‍යය අවස්ථාවක් යෙදුනා. මගුල් ගෙදරක්. මේ මගුල් ගෙදරට ඇට යන්න සිදුවුනා. එතකොට මගුල් ගෙදරට යෑම පිණිස දැන් ඈ සූදානම් වෙනවා, සැරසෙනවා. සාමාන්‍යයෙන් කාන්තාවක් මගුල් ගෙදරකට යන්න සැරසෙනවා කියන එක අපිට හිතාගන්න පුලුවන් එකක්නෙ. ස්වභාවයෙන්ම කාන්තාව වනාහි සැරසීමට කැමැති කෙනාය. පුරුෂයෝ වගේ නෙවෙයි ඇය සැරසිලා ලස්සනට ඉන්න කැමැති කෙනෙක්. එබඳු කාන්තාවකට තමන්ගේ පවුලේ විශේෂ අවස්ථාවක් වන මංගල අවස්ථාව කියලා කියන්නෙ, සාමාන්‍යයෙන් ටිකක් හැඩට ඇඳගෙන යනකොට සාමාන්‍යයෙන් අපි අහනවානෙ මොකෝ මේ අද ටිකක් හැඩට ඇඳලා මඟුල් ගෙදරකවත් යන්නද කියලා. එතකොට මංගල අවස්ථාවට විශේෂයෙන් සැරසෙනවා. මේක දුර ඈතක තිබ්බ මංගල අවස්ථාවක් නිසා හොඳටම සැරසුනා ඈ. ඈ මේ ශරීරය පාට කරගත්තා, ලස්සන කොණ්ඩ විලාසිතාවක් දාගත්තා, වටින ඇඳුම් ආයිත්තම් වලින් සැරසුනා, ආභරණ පැළඳගත්තා, දැන් මේ ඔක්කොම ලකලෑහැස්ති වෙනවා. ඒ ලකලෑස්ති වෙන අස්සේ දැන් දුර ඈතක යන්න තියෙනකොට මගට කන්න මොනවාහරි ගන්නත් ඕන. ඊළඟට මගට පානය කරන්න වතුර බෝතලයක් ආදිය ගන්නත් ඕන. ඉතින් ඔන්න පැන් කෙණ්ඩියත් අරගෙන, කෑම ටිකත් අරගෙන, ඊළඟට හදිසියේ කරදරයක් වුනොත් මුදල් හදල් ටිකක් අතේ තියෙන්නත් ඕන. මුදල් හදල් ටිකත් අරගෙන, ඔක්කොම සූදානම් කරගන්නවා එකින් එක. සාමාන්‍යයෙන් ඕනම ගෙදරක කාන්තාව, එහෙම නැත්නම් අම්මානෙ ඔය කටයුතු සම්බන්ධයෙන් විශේෂයෙන් හොයලා බලලා හිතලා කල්පනා කරලා වැඩ කරන්නෙ. ඒ කියන්නෙ කාන්තාවන්ට ඒ සම්බන්ධයෙන් විශේෂ කල්පනාවක් තියෙනවා. යම් ගමනක් යන්න වුනාම මේවා ඕන, මේවා ඕන, මෙහෙම එකක් වුනොත් එහෙම මේ මේ දේවල් අතේ තියෙන්න ඕන. මේ හැමදේම. පාරට යනකොට වෙනම කුඩයක් අරගෙන යනවා, අව්ව තද වුනාම කුඩේ ඕන, වැස්සක් ආවත් කුඩේ ඕන. මෙහෙම ලකලෑස්ති වෙනවානෙ. ඉතින් මේ ස්ත්‍රිය ඔන්න දැන් ලැහැස්ති වෙනවා. ලෑස්ති වෙද්දි විපස්සි බුදුරජාණන් වහන්සේගේ බණ පද අහලා ඒවා කල්පනා කර කර හිටපු තැනැත්තියක් විදියට එකපාර මැයට මෙහෙම කල්පනාවක් ආවනෙ. ඇයට මේ මගුල් ගෙදර ලැහැස්ති වෙන ගමන් එකපාරම හිතක් උපන්නා, දැන් මං මේ සාමාන්‍යයෙන් මේ මනුස්ස ලෝකෙ මේ පවුල් සංස්ථාව තුල යෙදෙන ගමනකටත් මෙච්චර ලැහැස්ති වෙනවා. මෙච්චර සූදානම් වෙනවා ගමනක්

යන්න. ගමනක් යන්නත් මෙච්චර සූදානම් වෙන මං අනිවාර්යයෙන් යන්න වෙන ගමනට සූදානම් වෙලාද ඉන්නෙ. ඈට එහෙම හිතුනා. අනිවාර්යයෙන් යන්න වෙන ගමන මොකක්ද පින්වතුනි? උපන් සත්වයාට අනිවාර්යයෙන් යන්න වෙන ගමන, නහි සො උපක්ඛමො අත්ථි යෙන ජාතා නම්ඉරෙ, උපන්නා නම් උපන්න සත්වයාට කිසි කලෙකත් ලබන්න බැරි දෙයක් නොමැරී ඉදීම. ජරම්පි පතවා මරණං ඒවං ධම්මාහි පානිනො, නාකි වීම මැරී යාම යනු මේ ලෝක සත්වයාගේ උරුමයයි. එහෙනම් අපි හැමකෙනාටම අනිවාර්යයෙන් යන්න වෙන ගමනක් තියෙනවා, ඒ තමයි මරණය. මෙලොවින් පරලොව යෑම. ඇය කල්පනා කරනවා මෙලොවෙන් පරලොව යන ගමනට මං ලෑස්ති වෙලාද ඉන්නෙ. මෙලොවින් පරලොව යන ගමනට ලෑස්තියක් නෑ, බොහෝ දෙනෙක්ගෙ නෑ. ඇයටත් එහෙම විශේෂ ලෑස්තියක් තිබුන් නෑ. ඈ කල්පනා කලා සාමාන්‍ය මගුල් ගෙදරට නම් දින යොදාගෙන, කාල වේලා යොදාගෙනයි කටයුතු යෙදෙන්නෙ. මරණයට එසේ කාල වේලා යොදාගෙන යෙදෙන්නේද. එබන්දක් නැත. මේ ඉන්නවා මේ මැරිලා යනවා. මේ හොඳට ඉන්නවා, මෙන්න ඊළඟ මොහොතේ මැරිලා. මෙන්න හොඳට කතාබහ කරලා රෑ නිදාගන්නවා. උදේ වෙනකොට නිදි ඇඳේම මැරිලා. ඕන තරම් වෙන්නැද්ද, ඕන තරම් ජීවිතේ සිද්ධ වෙනවා. මරණය පූර්ව දැනුම්දීමකින් තොරව පැමිණෙන්නේය. පෙර දැනුම් දීමක් පෙර මතක් කිරීමක් මේ කිසිවක් මරණයට නැත. එතකොට එබඳු වූ මරණය, එබඳු මරණයට මං ලැහැස්ති වෙලාද ඉන්නෙ. ඈ හිතුවා. අපිත් හිතන්න ඕන ඒක. අපි අපේ මරණය වෙනුවෙන් සූදානම් වෙලාද ඉන්නෙ. අපි මේ ජීවිතේ ජීවත් වීම වෙනුවෙන් නම් එක එක විදියට සූදානම් වෙනවා, සල්ලි හොයාගන්නවා, අනිකුත් යෙදෙන්න ඕන කටයුතු කරනවා, දේපළ හොයාගන්නවා, රැස් කරනවා, ඔක්කොම ටික තියෙනවා. හැබැයි පරලොවට අපි සූදානම් වෙලාද. මේ හම්බකරන ධනය පරලොවට අරන් යන්න බෑ, මේ ඉන්න ඥාතීන් පරලොවට එන්නෑ, මේ දේපළ පරලොවදි නෑ, එහෙම නම් අපිට තේරෙනවා පරලොවට අපේ ලොකු සූදානමක් නෑ, දැන් හොඳට කල්පනා කලා, මා එසේ නම් පරලොවට සූදානම් විය යුත්තේය. ඈ තමන්ගේ ස්වාමිපුරුෂයා වන බන්ධුම බ්‍රාහ්මණතුමාට කියලා පරලොවට සූදානම් වීම පිණිස වරම් ගත්තා. මොකක්ද වරම? ඈ දානෙ දෙන්න අවසර ගත්තා, එක දිගට දන්වැටක් පවත්වන්න. එක දිගට දානෙ දෙනවා, දැන් ඈ නිතරම උනන්දුවෙන් බණ අහනවා. නිතරම පුලුපුලුවන් විදියට අධිසීලය සමාදන් වෙලා සිල් ආරක්ෂා කරනවා. ඔන්න පින් පුරාගත්තා, විපස්සී අර්හත් සම්මා සම්බුදුරජාණන්

වහන්සේගේ බුදු සසුනේ ඈ පින් පුරාගත්තා. පරලොව යෑම පිණිස, මෙලොවින් පරලොව යන ගමනට ඇය තමන්ගේ ජීවිතයට සූදානම් වුනා. ලස්සන ගමනකට මනාව සැරසෙන්නා සේ ඇය පරලොව ගමනට සූදානම් වුනා. ඒ සූදානම අතිශයින්ම සාර්ථකයි. ඒ පරලොව ගමනට ඇගේ සූදානම අතිශයින්ම සාර්ථක වුනා. ඇය පරලොව යන්න සැරසෙනකොට පින්වතුනි, ඒ ඇගේ පරලොව ගමන මෙහිදී පින් පිරූ නිසා දෙවියන් අතරේ ඇය ගියා. බුද්ධ දේශනාවේ තියෙනවා පරලොවට සූදානම් වීම ගැන බොහොම ලස්සන ගාථාවක්. චිරප්පවාසිං පුරිසං ධූරතො සොත්ථිමාගතං ඤාතිමිත්තා සුහජ්ජාච අභිනන්දාති ආගතං, මෙලොව අත්හැර පරලොව යෑම කියන එක එහි උපමා කරනවා දුර රටක ඉඳලා එහෙ රැකී රක්ෂා කරපු කෙනෙක් යළි මව්රට එනවා වගේ. දුර රටක රස්සාව කරපු කෙනෙක් ආයෙ මව් රටට එනකොට ඥාතීන් මිත්‍රයො හිතවතුන් ඔහුව පිළිගන්නට එනවා. ඔහු වෙනුවෙන් සත්කාර තියනවා මෙහේ. තතෙව කත පුඤ්ඤම්පි, අන්න ඒ වගේමයි පින කරගත්තොත්. තස්මා ලෝකා පරංගතං, පින් කරගත්ත කෙනා මේ ජීවිතය අත්හැරලා පරලොව යද්දි, පුඤ්ඤානි පතිගන්හන්තු පියං ඤාති වාගතං, පින තමයි පැමිණෙන්නේ ප්‍රියමනාප ඥාතියා වශයෙන් පිළිගන්න. අන්න ඒ පින ඇය රැස් කරලා තිබුනා. ඉතින් දෙව්ලොව ඉපදිලා ඒ දෙව්ලොව දී තව තවත් ජීවිතයට පින් රැස් කරගත්තා, කොච්චර සත්පුරුෂ ඇසුරක් ඇය ලැබුවාද කියන්නෙ අනූ එක් කල්පය ඇතුලේ ඈ දුගතියේ ගියෙ නෑ. කල්ප අනූ එකක් මනුලොව දෙව්ලොව කියන සුගතියේම ආරක්ෂා වුනා. ඒ සුගතියේම ආරක්ෂා වෙන්නෙ කොහොමද කියන කාරණය අපි ඔබට පැහැදිලි කලා මීට කලින් දේශනා වල. සත්පුරුෂ ආශ්‍රය නිසා. සත්පුරුෂ ආශ්‍රයෙන් තමයි සුගතිය ආරක්ෂා වෙන්නෙ. සත්පුරුෂ ආශ්‍රය නිසා තමයි පහළට නොවැටී ඉන්නෙ. සත්පුරුෂයෙක් ඇසුරු කරන හින්දා තමයි නොපිරිහී ඉන්නෙ. සත්පුරුෂයො ඇසුරු කරන්න නම් සුගති රැකවල් තියෙන්නම ඕන. සුගතියේමයි සත්පුරුෂයො ඉන්නෙ. ඒ සුගතියේමයි සත්පුරුෂයා හමුවෙන්නේ බොහෝ වෙලාවට සුගති ලෝක වල. පින්වතුනි ජාතක පුවත් වල එහෙම තියෙනවා අපේ මහාබෝසතාණන් වහන්සේ සංසාර ගමනේ එනකොට තිරිසන් යෝනියෙ ආදියෙත් ඉපදිලා ඒ ජීවිත වල උපදිනකොටත් ඒ උත්තමයාට නම් සත්පුරුෂ ගුණ තිබුනා. හැබැයි ඉතින් පින්වතුනේ දුගති ලෝකයක සත්පුරුෂ ඇසුර කියලා කියන්නෙ ලබන්න බැරි තරම් දුර්ලභම එකක්. සුගති ලෝකවලත් සත්පුරුෂ ඇසුර දුර්ලභයි. හැබැයි දුර්ලභව හරි සත්පුරුෂ ඇසුර ලබන්න

හැකියාවක් සුගති ලෝකයේ හිමිවෙනවා. ඒ නිසා පින් පුරාගෙන ඈ ඔන්න සුගතියේ ගිහින් සත්පුරුෂ ඇසුරේ ආරක්ෂා වෙලා අපේ අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළ වෙන සමයේ ඈ උපන්නා කපිලවස්තුවේ රාජකීය පවුලේ, ශාක්‍ය දුවක් විදියට ඈ උපදිනවා. ඛේමක කියන රජුට දාව, රජ පවුලේ ඈ උපන්නා. ඇගේ නම නන්දා. තරුණ වයසට එනකොට ඈ පුදුමාකාර ලස්සනක්. ඒ ලස්සන හින්දාම ඇගේ නන්දා කියන නමේ ඉස්සරහට තව කෑල්ලක් යෙදුනා, අභිරූපී නන්දා. ගොඩාක් ලස්සන නන්දා කුමාරිය. මේ ගොඩාක් ලස්සන නන්දා කුමරිය තරුණ වයසට පැමිණෙනකොටම තවත් තමන්ට සුදුසු පෙම්වතෙක් සමඟ, පුරුෂයෙක් සමඟ හාදකමක් පටන් ගත්තා. ශාක්‍ය රජකුමාරයෙක් එක්කම. ඉතින් පවුල් වලින් මේකට විරුද්ධ වුනෙත් නෑ, ශාක්‍ය රජකුමාරයත් එක්ක හාදවෙලා දැන් ඈ සිහින ලෝක ගොඩනගනවා. මේ විවාහයෙන් පස්සෙ තමන්ගෙ ජීවිතේ ගැන සිහින ලෝක ගොඩනගන තරුණපහේ හීන ලෝකයක් තුළ ජීවත් වෙන ස්ත්‍රියක්. ඈ මේ සිහින ලෝකය ගොඩනගමින් ඉද්දි හැම තරුණියකටම වගේ විවාහ දිවියකට එළඹෙනකොට ගොඩාක් හීන තියෙනවානෙ. මොකද ඈ පුංචි කාලෙ ඉඳලා ජීවත් වෙච්චි නිවස අත්හැරලා, තමන්ගේ මව්පියො අත්හැරලා, තමන්ගේ සහෝදර සහෝදරියො අත්හැරලා එක පුරුෂයෙක් සමීපයට එන්නෙ ගොඩාක් බලාපොරොත්තු ගොඩාක් හීන තියාගෙන. ඉතින් මෑත් ඒ සඳහා සූදානම් වෙමින් හිටියා. විවාහයට දින නියම වුනා. අසවල් දවසේ ඈ විවාහ වෙනවා කියන කරුණුත් යෙදුනා. දැන් ඇයගේ හිත ප්‍රීතියෙන් පිනා ගිහින් තියෙනවා. ඈ විවාහයට ලෑහැස්ති වෙමින් ඉන්නවා. ඈ විවාහයට ලෑහැස්ති වෙමින් ඉද්දි ඇගේ ආදර පෙම්වතා හදිසියේම කාලක්‍රියා කලා. ඈ ප්‍රේම කරපු පෙම්වතා මියගියා. අහිමි වීම, අහිමි වීම කියලා කියන්නෙ පින්වතුනි සංසාරෙට උරුම එකක්. මේ සංසාර ගමනේ යද්දි අහිමි වීම කියන එක කොච්චර දරන්න සිද්ධ වෙනවාද. සංසාර ගමනේ යනකොට ආදරය කරන අය සෙනෙහසින් බැඳෙන අය අහිමි වෙනවා කියන එක. හරියට දරන්න වෙන එකක්. ඒ නිසාමයි ශාස්තෲන් වහන්සේ දේශනා කලේ මහණෙනි, සසර දුකක්. මේ සංසාර ගමනේ යනකොට ප්‍රිය වූ එකට බැඳී යන හැමෝගෙන්ම වෙන්වෙන්න සිද්ධ වෙනවා. එසේ වෙන්වීම්වලදී මහණෙනි ඔබ ගොඩාක් හැඬුවා. තමන් ආදරය කරපු තමන්ගේ ස්වාමියා මිය යනකොට මේ සංසාර ගමනේ ඇඬූ කඳුළු එකතු කලොත් සතර මහා සාගරයේ ජලයට වඩා වැඩියි. තමන් ආදරේ කරපු බිරිඳ මියයනකොට ඇඬූ කඳුළු විතරක් එකතු කලත් සතර මහා සාගරයේ ජලයට

වඩා වැඩියි. තමන්ගේ ආදර දරුවො මිය යනකොට මේ ඇස් දෙකින් ගැලූ කඳුළු එකතු කලත් සතර මහා සාගරයේ ජලයට වැඩියි, එච්චර අඬලා තියෙනවා, එච්චර අහිමි වීමේ දුක. ඒ අහිමි වීමේ දුක මේ ජීවිතේදිත් ඇයට ආවා. තරුණ වයසෙම. මෙහෙම කතන්දර කොච්චර තියෙනවාද පින්වතුනි ලෝකෙ. කොච්චර තියෙනවාද, සමහර වෙලාවට ස්වාමිපුරුෂයො මියයෑමෙන් වෙන් වෙනවා. සමහර වෙලාවට ස්වාමිපුරුෂයො ස්ත්‍රීන්ට වංචා කරනවා. නොයෙක් දේ. ඒ හැම එකක් ඉස්සරහම ස්ත්‍රියට බලවත් දුකක් උරුම වෙනවා. මේ අභිරූපී නන්දා කුමරියටත් එහෙම වුනා. ඈට දරාගන්න බෑ, ඇය පෙම් බැඳි ශාක්‍ය රජකුමාරයා මියගියා කියන එකෙන් ඇය ගොඩාක් හැඬුවා. එසේ හඬමින් ඉද්දි අනෙක් රාජ්‍ය වලට ආරංචි වෙනවා අභිරූපී නන්දා කුමරිය ඒ ශාක්‍ය රජ දුව විවාහ වෙන්න නියමිතව හිටපු කෙනා මිය ගිහිල්ලා. ඒ ශාක්‍ය රජ දුවගේ අත ගන්නෙ කවුද. අනිත් රාජ්‍ය වල රජකුමාරවරු එක්කෙනා එක්කෙනා එන්න පටන් ගත්තා. මේ ඛේමක කියන රජ්ජුරුවො, ඛේමක කියලා කියන්නෙ අභිරූපී නන්දා කුමරියගේ පියරජ්ජුරුවො. පියරජ්ජුරුවො සමීපයට ඇවිල්ලා අභිරූපී නන්දා කුමාරිව ඉල්ලුවා. ඛේමක රජතුමනි ඔබේ දුව අපිට දෙන්න, අපේ රජ කුලයට. තව කෙනෙක් ඇවිල්ලා ඉල්ලනවා නෑ ඔවුන්ට නෙවෙයි අපිට දෙන්න, අපේ රජ කුලයට. ඛේමක රජ්ජුරුවන්ට මේක මහා හිසරදයක් වුනා දැන් තමන්ගේ දුවව ගන්න බලවත් රාජ්‍ය වල රජ කුමාරවරු පෙළගැහිලා. දැන් මෙතන මහා යුද්ධයක් ඇතිවෙනවා. එක්කෙනෙකුට දීලා එක්කෙනෙකුට නොදී ඉන්න බෑ. යුද්ධයක් හටගන්නවා. ඛේමක රජ්ජුරුවො හරී අසහනයට පත්වුනා. එතකොට මේ අභිරූපී නන්දා කියන රජ කුමාරිට මේක දරාගන්න බැරිව ගියා. ඈ කල්පනා කලා මම මහා අවාසනාවන්ත එකියක්, මට මං ආදරේ කරපු පෙම්වතා නැතිව ගියා. දැන් ඒ ආදරේ කරපු පෙම්වතා නැතිව ගිහිල්ලා ඒකෙ ශෝකය තුනී වෙන්නත් කලින් මං නිසා යුද්ධයක්. මට මේ ජීවිතේ ඕන නෑ, මං මහණ වෙනවා කියලා ඇය තීරණය කලා. එතකොට ඒ පැවිද්ද සංසාරෙ ගැන තේරුම් අරගෙන, ජීවිතේ ගැන තේරුම් අරගෙන එහෙම ඇතිවෙච්ච එකක් නෙවෙයි. අර ඇතිවෙච්චි කළකිරීම හින්දා තමයි ඈ මහණ වෙන්න තීරණය කලේ. හැබැයි ඒ වෙනකොට භික්ෂුන් වහන්සේලාගේ ඇසුරක් යම් පමණක් තිබ්බ නිසා ඔන්න ඇය තාත්තා ළඟට ගිහින් කියනවා ඛේමක රජ්ජුරුවන්ට, මට මං හිතවත්ව හිටපු පෙම්වතා විනා අනිකෙක් ඕන නෑ, පියරජාණෙනි, මට මහණ වෙන්න ඕන. ඛේමක රජ්ජුරුවො ඉතින් මුලදි අකමැති වුනා. නමුත් මේ ඇතිවෙලා තියෙන තත්වෙත් එක්ක රජතුමාට හිතුනා ඒක හොඳයි කියලා.

රජ්ජුරුවෝ මහා පෙරහැරකින් මේ අභිරූපී නන්දා කුමරියව මෙහෙණවරකට එකතු කරගෙන ගිහිල්ලා ඇට පැවිද්ද ලබාදුන්නා. ඔන්න දැන් ඇ පැවිදි වෙලා. අභිරූපී නන්දා තෙරණිය, අභිරූපී නන්දාව තෙරණිය වුනාට අවුරුදු දාසය, දාහත, දහඅට වගේ තරුණ වයසේ ඇ නාම සැරසෙන්න කැමැති කෙනෙක්. ඇ නාම රූපයට ආස කෙනෙක්. ඇ තවමත් සැරසීම ගැන ගොඩාක් කල්පනා කරනවා. රූපයේ ආදීනව ඇ සිහි කරන්නෑ, මේ රූපය වැහැරෙනවා කියන එක ඇය සිහි කරන්නෑ. ඇය තමන්ගේ රූපෙ ගැන මත්වෙලා ඒක ගැනම හිත හිත, අනේ මං කොහොම හිටපු කෙනෙක්ද, මං කොච්චර ලස්සනට හිටපු කෙනෙක්ද, එහෙම හිත හිත ඇය මේ පැවිද්දේත් රූපෙ ගැන හිත හිත ප්‍රමාද වෙනවා. බුදුරජාණන් වහන්සේ මහාකරුණා සමාපත්තියෙන් ලෝකය දිහා බලනකොට මේ අභිරූපී නන්දාව භාග්‍යවතුන් වහන්සේගේ මහා කරුණා නේත්‍රයට හසුවුනා. මහා කරුණා නේත්‍රයට හසුවෙන්නෙ පින් තියෙන අය. අභිරූපී නන්දා තෙරණියට ඒ පින තිබුනා. ඇය පින්වතුනි විපස්සී බුද්ධ ශාසනයේ සිට පින් පිරූ කෙනානෙ. ඒ පින තිබුනා. ඉතින් බුදුරජාණන් වහන්සේ අභිරූපී නන්දාවට උපකාර කරන්න අධිෂ්ඨාන කලා. එදා අභිරූපී නන්දා තෙරණිය අනිත් භික්ෂුණීන් වහන්සේලාත් එක්ක බුදුරජාණන් වහන්සේ සම්මුඛයට බණ අහන්න එනවා. ඇය උනන්දුවෙන් බණ අහන කෙනෙක් නෙවෙයි. හැබැයි එදා වෙනදාට බණ මඩුවේ නැති දෙයක් ඇයට පේන්න තියෙනවා. ඇය දකිනවා තුන්ලෝකාග්‍ර බුදුරජාණන් වහන්සේ පිටුපස දෙවඟනක් බඳු ස්ත්‍රියක් චාමර සළමින් ඉන්නවා, දිව්‍යංගනාවක් වගේ. මනුස්ස ලෝකයේ දැකගන්න නැති තරම් ලස්සන රූපයක්. දිග කේශ කලාපයක්, මනාව අඟ පසඟ පිහිටලා තියෙනවා. ලස්සන ඡවි වර්ණයක්, ලස්සන ඇස් දෙක, බොහොම තරුණ වයසේ, හම දිලිසෙනවා, ඇය බුදුරජාණන් වහන්සේට චාමර සළමින් ඉන්නවා. අභිරූපී නන්දාව ඇ දිහා ඇස් දල්වාගෙන බලා සිටියා. දැන් භාග්‍යවතුන් වහන්සේ මේ කරන්නෙ ඍද්ධියක්. බුදුරජාණන් වහන්සේට පිටුපසින් චාමර සළමින් ස්ත්‍රියක් ඉන්නවා පේන්නෙ අභිරූපී නන්දාට විතරයි, තථාගතයන් වහන්සේලා ආශ්චර්‍යයි. බුදුරජාණන් වහන්සේලාගේ විෂය ක්ෂේත්‍රය ආශ්චර්‍යයි. උන්වහන්සේලාගේ මහා කරුණාව ආශ්චර්‍යයයි. ධර්මාවබෝධ කරන්න පින් තියෙන කෙනාට ඒ පින ඉස්මතු කරලා දෙන්න බුදුරජාණන් වහන්සේ නොයෙක් දේ කලා. බුදුරජාණන් වහන්සේ ඒ අතර කරපු එක ප්‍රාතිහාර්යක් ඍද්ධි ප්‍රාතිහාර්ය. දැන් භාග්‍යවතුන් වහන්සේගේ ඍද්ධියෙන් මැවූ මේ රූපවත් කාන්තාව දෙස අභිරූපී නන්දා දෑස් දල්වාගෙන

බලාගෙන ඉන්නවා. ඈ කල්පනා කරනවා හප්පේ මං හිතාගෙන හිටියේ මං ලස්සන එකියක්ය කියලා. බලාන ගියාම මට ලස්සනක් තිබිලා නෑ නොවැ. භාග්‍යවතුන් වහන්සේට පිටිපසින් ඉන්න ස්ත්‍රිය නොවැ ලස්සන. ඇගේ දිගු කෙස් කළඹ, ඇගේ දිලිසෙන ඇස්, ඇගේ ලස්සන නහය, ඇගේ ලස්සන තොල් පෙති, දැන් මෑ එකින් එක, එකින් එක බලනවා. ඒ බලද්දි හොඳට බලාගෙන ඉද්දි ඈට පේනවා ඒ රූපයේ තියෙන කාන්තිමත් ගතිය එන්න එන්න අඩුවෙනවා. අර දිග කේශකලාපය ටික ටික ගැලවි ගැලවී යනවා. හමේ තිබුනු ප්‍රභාව නැතිවෙලා හම රැලි ගැහි ගැහී යනවා. ඈට ටික ටික පේනවා, මේ රූපය දිරාපත් වෙනවා. වයෝවෘද්ධ වෙනවා. සාමාන්‍යයෙන් කාලයක් ගියාම හැමෝටම වෙන දේ, කාලානුරූපව වෙන දේ, බුදුරජාණන් වහන්සේ වේගයෙන් පේන්න සැලැස්සුවා. පින්වතුනි අපිට මේ රූපයට වෙන දේ අමතක වෙන්නෙ මේක කලක් ගිහිල්ලානෙ වෙන්නෙ. අද කාලෙ හැටියට නම් කාලයක් යනවා කියලා කියන්නත් අමාරුයි. අවුරුදු කීපයක් ඇතුලෙ නාකි වෙනවා. හැබැයි අපිට ඒ ගැන ලොකු අවධානයක් නැති නිසා අපිට අමතකයි අපි නාකිවෙන මිනිස්සු කියලා. මේ රූපෙ දිරනවා කියන එක අපිට අමතකයි. රූපය දිරනකොට ජරාවේ ලක්ෂණ මතුවෙනකොට ඒක වහගන්න තමයි ලෝකයා කල්පනා කරන්නෙ. ඒක තමයි ලෝකය යන රටාව. කෙස් ටික සුදු වෙනකොට කලු කරන්නෙ කොහොමද කියලා හිතනවා මිසක්, මේ ජරාවට පත්වෙනවා නේද කියලා නුවණින් සලකන්න තරම් තැනකට සාමාන්‍ය මනුස්සයාගේ කල්පනාව දියුණු නෑ. අභිරූපී නන්දා මේ දිහා බලාගෙන කල්පනා කරනකොට ඇයට තේරුනා, සත්‍යයනෙ මේ, මේකනෙ ඇත්ත. නාකි වෙනවා. ජරාදංමුංහි, මාත් නාකිවෙලා යන කෙනෙක්. ජරං අනතීතො, මාත් නාකි වීම ඉක්මවා ගියපු කෙනෙක් නම් නොවෙයි. ජරාව කියන දේ මගේ ජීවිතේටත් උරුම එකක් නේද කියලා ඇයට තේරෙන්න ගත්තා. අන්න එහෙම තේරෙනකොට ඒ මොහොතේ භාග්‍යවතුන් වහන්සේ මේ ශරීරය අරමුණු කරගෙනම අභිරූපී නන්දාවට ලස්සන ගාථා දෙකක් වදාළා. ආතුරං අසුචිං පූතිං පස්ස නන්දේ සමුස්සයං අසුභාය චිත්තං භාවේහි ඒකග්ගං සුසමාහිතං, පින්වත් නන්දාවෙනි, නිතර ලෙඩදුකින් පෙළෙන, කුණුවෙලා යන මේ පිළිකුල් ශරීරය දෙස නුවණින්ම බලන්න, සිත හොඳට එකඟ කරගෙන අසුභ භාවනාව වඩන්න. මේ ශරීරය දෙස භාග්‍යවතුන් වහන්සේ බලන්න කිව්වෙ නුවණින්. අපිත් මේ ශරීරය දෙස බලනවා රාගයෙන්. ඇලුනු හිතින්, වසඟ වූ සිතින්. අපි මේ ශරීරය දිහා බලන්නෙ එහෙමයි. අපි අපේ ශරීරය දිහා බලන්නෙත් සරාගීව ඇලුනු සිතින්. අනුන්ගේ ශරීර දිහා

බලන්නෙත් සරාගීව ඇලුනු සිතින් මිසක් නුවණින් නම් නෙවෙයි. භාග්‍යවතුන් වහන්සේ බලන්න කිව්වෙ නුවණින්. නුවණින් මේ ශරීරය දිහා බලනකොට ශරීරය ඇත්ත. ශරීරයේ තියෙන සත්‍යය මොකක්ද, මේ ශරීර කූඩුව කියන එක හැදිලා තියෙන්නෙ කොහොමද. ඇත්තටම මේ නඩත්තු කර කර නඩත්තු කර කර තියාගන්න මේ ශරීරය කියලා කියන්නෙ කොයි වගේ එකක්ද. අසුභ භාවනාව තුළ හොඳට හිත වඩන්න කියනවා. අසුභ භාවනාව තුළ හිත වඩනවා කියන්නෙ අමුතු එකක් නෙවෙයි. ඇත්ත සිහි කරන්න කියන එක. මේ ශරීරය කොහොමත් අසුභයි. නැතිව මේ භාග්‍යවතුන් වහන්සේ සුභ එකක් අසුභ වශයෙන් හිතපං කියලා නෙවෙයි කිව්වෙ. අසුභ එක අසුභ වශයෙන් දකින්න. ඇත්ත ඇතිහැටියට දකින්න. සත්‍යය, සත්‍යය විදියට දකින්න. මේ ශරීරය අසුභයි කියන එක සම්බන්ධයෙන් ආයෙ මේ වාද කර කර හිතන්න දෙයක් නෑ, අපිම සාමාන්‍යයෙන් දවසක් ඇතුලේ මේ ශරීරය පිරිසිදු කරගන්න, මේ ශරීරයේ දුර්ගන්ධය දුරු කරගන්න කොච්චර වතාවක් සෝදනවාද. මේ ශරීරයෙන් අපිට ප්‍රකට වන කොච්චර පිළිකුල් සහගත දේවල් අපි බැහැර කරනවාද. ඒ දේවල් බැහැර කරලා අපිත් පිරිසිදු කරනවානෙ හෝදලා කරලා. එතකොට අපිට තේරෙනවා මේ ශරීරයේ තියෙන්නෙ අසුභ ස්වභාවයක්. දෙපැත්තේම කට තියෙන මල්ලක් ලෙහලා, ඒ මල්ලේ තියෙන ධාන්‍ය වෙන් කර කර, වෙන් කර කර බලනවා වගේ හොඳ දියුණු කරපු නුවණින් මේ ශරීරය වෙන් කර කර බලන්න කිව්වා. මේ ශරීරයේ ඉස්මුදුනේ ඉඳලා යටිපතුලට යනකල් තියෙන්නෙ කුණප කොටස්, අසුභ කොටස්. කෙස් කියන්නෙ පිළිකුල් සහගත කොටසක්. ශරීරය පුරා තියෙන ලොම් කියලා කියන්නෙ පිළිකුල් සහගත එකක්. නියපොතු පිළිකුල් සහගතයි. කෙළ තැවරිච්චි දත් පිළිකුල් සහගතයි. මේ සම පිළිකුල් සහගත එකක්. මේ සම කියලා කියෙන්නෙ මේ මුළු ශරීරයම වහලා තියෙන රෙද්දක් වගේ එකක්. පිළිකුල් සහගත එකක්. ඊටපස්සෙ මේ සමෙන් අභ්‍යන්තරයේ තියෙනවා නම් යම්තාක් කොටස් ඒ හැම කොටසක්ම පිළිකුල් සහගත ඒවා. ඒ පිළිකුල් සහගත බව හොඳ නුවණින් බලන්න කියනවා. මේ ශරීරයේ තියෙන කෙස්, ලොම්, නිය, සම, දත්, නහර, ඇට, ඇටමිදුළු, වකුගඩු, හදවත, අක්මාව මේ ආදී සියලු කොටස් පිළිකුල් සහගතයි නේද කියලා බලන්න කිව්වා. වැගිරෙන දේවල්, මේ ශරීරය ගත්තොත් ඇස් වලින් කබ කඳුළු වැගිරෙනවා. කන්වලින් කනකාරළු වැගිරෙනවා. මුළු ශරීරය පුරාවටම දහඩිය වැගිරෙනවා. කටින් කෙළ සෙම පිටවෙනවා. නාසයෙන් හොටු පිටවෙනවා. මලමුත්‍ර පහවෙනවා. ..තෙල් පිටවෙනවා. මේ ආදී මේ පිළිකුල් සහගත කොටස්

ගැන හොඳ නුවණින් සළකා බලන්න. අනිමිත්තං ච භාවේහි මානානුසය මුඤ්ඤහ චතුහමානාභිසමයා උපසන්තා චරිස්සසී, කෙලෙස් සටහන් නැති විදර්ශනාව වඩන්න. හිතේ තියෙන මාන්නය මුලින්ම උදුරලා දාන්න. අවබෝධයෙන්ම මාන්නය නැති කරලා උපසාන්තව ජීවත් වෙන්නෙ. භාග්‍යවතුන් වහන්සේ ඔය ගාථා දෙකින් තමයි අභිරූපී නන්දා කියන මේ තෙරණියට අවවාද කලේ. කෙලෙස් සටහනක් නැති විදර්ශනාව. කෙලෙස් සටහනක් නැති විදර්ශනාව කියලා කියන්නෙ ජීවිතයේ ඇත්ත දකිනකොට කෙලෙස් සටහන් නැතිව යනවා. ජීවිතයේ ඇත්ත දකින්නැතිව පින්වතුනි මේ රූප දකින්න ගියාම හිටින්නේම කෙලෙස් සටහන්. එක්කො සටහන්, එක්කො අනුසටහන් හිටිනවා. අරයාගෙ කොණ්ඩෙ නම් පුදුම ලස්සනයි කියලා සටහනක් හිටිනවා. ඇත්ත ඇතිහැටියෙන් දකින්නැති නිසා. එයාගෙ සමේ පාට නම් පුදුම ලස්සනක්. එහෙම කෙලෙස් සටහන් හිටින්නෙ. එයාගෙ දත් වල ලස්සන. එයාගේ ඇස් වල ලස්සන. එයා ඇවිදිනකොට තියෙන ලස්සන, මෙහෙම කෙලෙස් සටහන් තමයි හිටින්නෙ ඇත්ත නොදකිනකොට. ඇත්ත ඇතිහැටියෙන් බලනවා නම් එයට කියනවා කෙලෙස් සටහන් නොමැති විදර්ශනාව. බුදුරජාණන් වහන්සේ වදාලේ නන්දාවට කෙලෙස් සටහනක් නැති විදර්ශනාව වඩන්න. හිතේ තියෙන මාන්නය මුලින්ම උදුරලා දාන්න. මාන්නය කිව්වහම ඕකෙ තියෙනවා හීනමාන, සදිසමාන, සෙයයමාන කියලා. හීනමානය කියන එක - දැන් රූපය මුල් කරගෙනම අපි ගමු. රූපය මුල් කරගෙන හීනමානයෙන් යුක්ත කෙනා කල්පනා කරනවා අහවල්ලු නම් අපිට වඩා ලස්සනයි, අපි එච්චර ලස්සන නැත්තේය. ඒ විදර්ශනාවද, ඒ විදර්ශනාව නෙවෙයි. අහවල්ලු හරී ලස්සනයි, අයියෝ අපි එච්චර ලස්සන වුනේ නෑ, කියලා හීනමානයෙන් හිතනවා. තව කෙනෙක් දිහා බලලා හිතනවා අරයා නම් මං වගේ තමයි, මගේ හැඩහුරුකම්මයි. එයා තමන්ට සම කරලා හිතනවා, ඒක විදර්ශනාවද? ඒකත් විදර්ශනාව නෙවෙයි. තමන්ට වඩා කැත ඇයො දිහා බලලා රූපයෙන් අවලස්සන ඇයො දිහා බලලා හිතනවා මම නොවැ ලස්සන, එහෙමත් හිතනවා. ඒකත් විදර්ශනාව නෙවෙයි. ඇත්තටම විදර්ශනාව කියලා කියන්නෙ මොකක්ද, හැම ශරීරයකම තියෙන පොදු බව සිතීම. හැම ශරීරයකම තියෙන්නෙ කුණප කොටස්. අපි හිතමු මේ ලෝකයේ රූපයෙන් ගොඩාක් ලස්සන ස්ත්‍රී පුරුෂයො ඉන්නවානෙ. ඒ අයගේ සංසාරයේ පින් වලට ඒ අයට කර්මානුරූපව ලැබිච්ච රූපය හරි හැඩයි. කොච්චර හැඩද කියලා කියන්නෙ අනික් මිනිස්සු තමන්ගේ නිවෙස් ලස්සන කරගන්න ඒ ඇත්තන්ගේ

රූපය තමන්ගේ ගෙදර රාමු කරලා ගහගන්නවා. කැලැන්ඩර් වල අමුණලා ගහගන්නවා. ඒ තරම් ලස්සනයි. ඊළඟට ඇතැමු ඇඳුම්වල, ඇඳුම් විලාසිතාවේ එක කොටසක් විදියට ඒ ස්ත්‍රී පුරුෂයන්ගේ රූපය වැටෙනවා. ඉතින් එහෙම රූප තියෙනවා. දැන් අපි හිතමු ලෝකෙ ලස්සනම ඇස් දෙක තියෙනවා කියලා. ලෝකයේ ලස්සනම ඇස් දෙක තියෙන කෙනාගේ ඇස් දෙකෙනුත් ගලන්නෙ කබ කඳුළු. ඒ කබ කඳුළු අමුතු සුවඳකින් යුක්ත නෑ. ඒවත් පිළිකුල් සහගතයි. ලෝකයේ ලස්සනම ඡවි වර්ණය තියෙන කෙනාගේ මේ හමෙනුත් ගලන්නෙ දහඩිය වුරුනුතෙල්. ලෝකෙ ලස්සනම හිනාව තියෙන කෙනාගේ දත්වලත් තැවරිලා තියෙන්නෙ දුර්ගන්ධයෙන් යුක්ත කෙළ. අන්න පොදු බව. ඒක විදර්ශනාව. කෙලෙස් සටහනක් නොමැති විදර්ශනාව වඩනා කල්හි මානය දුරුවී යන්නේය. හිතේ තියෙන මානය මුලින්ම උදුරලා දාන්න. අවබෝධයෙන්ම මානය නැති කරලා උපශාන්තව ජීවත් වෙන්නෙ. උපශාන්ත කියලා කිව්වෙ කෙලෙස් නැති. නිකෙලෙස්. හරියට නොකැළඹෙන විල් වගේ. විලක් නොකැළඹෙන්නේ මඩ නැති කල්හි. මඩ නැති විල කිසි කලෙකත් කැළඹිය නොහැක්කේය. කැළඹෙන්න හේතුවෙන මඩ ඒ විලේ නැති නිසා ඒ. අන්න ඒ වගේ කෙලෙස් කිසිවක් නැති රහතන් වහන්සේලාගේ සිත් අර්හත් තෙරණිවරුන්ගේ සිත් උපශාන්ත වී තිබේ. ඒවා කළඹන්න නොහැකිය. ඉතින් භාග්‍යවතුන් වහන්සේ ඉත්ථං සුතං භගවා අභිරූපනන්දං සික්ඛමානං ඉමාහි ගාථාහි අභින්නං වෝ වාදතී ති. ඉතින් භාග්‍යවතුන් වහන්සේ ඔය අභිරූපී නන්දා කියන සික්ඛමානාවට - සික්ඛමානා කියලා කියන්නෙ උපසම්පදාව පිණිස හික්මෙමින් සිටින කෙනා. මේ සික්ඛමානාවට නිතර නිතර කරපු අවවාද කියනවා ඔන්න ඔය ගාථා ද්විත්වය. ඔය ගාථා දෙකෙන් ඈ නිතර නිතර අවවාද ලබනකොට ඇය ජීවිතේ ගැන හොඳට නුවණින් සළකන තැනැත්තියක් වුනා. නොබෝ කලකින්ම සියලු කෙලෙස් නසා අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. අභිරූපී නන්දා රහත් තෙරණිය. ඉදින් බලන්න ඇගේ ජීවිතය වෙනම ශෝකාන්තයකට ඇදෙමින් තිබුනෙ. ඇය ශෝකාන්තයෙන් තමන්ගේ ජීවිතය ගලවාගෙන සැපවත් කරගත්තා ධර්මය නිසා. තමන්ගේ ජීවිතය සැපවත් කරගත්තා ධර්මය නිසා. ඉතින් ඒ වගේම තව සිද්ධියක් තමයි ජින්තා තෙරණියගේ සිදුවීම. අභිරූපී නන්දා තෙරණියගේ ගාථා වලට පස්සෙ තියෙන්නෙ පින්වතුනි, ජින්තා කියලා තෙරණියකගේ ගාථා. ජින්තා තෙරණියගේ ගාථාව ගත්තත්, අභිරූපී නන්දා තෙරණියගේ සිදුවීමට බොහෝ සෙයින් සමානයි. වෙනසකට තියෙන්නෙ ඇය උපන්නේ ලිච්ඡවී රජ පවුලක.

දැන් නන්දා කුමාරිය උපන්නෙ ශාක්‍ය රජ පවුලෙනෙ, කපිලවස්තුවේනෙ. ජින්තා කුමාරිය උපන්නෙ ලිච්ඡවි රජපවුලක, ඉතින් ලිච්ඡවි කියලා කියන්නෙ බොහොම ලස්සන රූප සොභා තිබ්බ පිරිසක්. ලිච්ඡවි, ලිච් ඡවි කියලා කිව්වෙ ඒ නිසානෙ. බොහොම ලස්සන බැබළෙන ශරීර තිබ්බා ලිච්ඡවින්ට. ඒ ලිච්ඡවි රජ පවුලේ රාජකීය කුමාරියක් විදියට ඉපදිලා ඇයත් තරුණ වයසට එනකොට කුමාරයෙකුට පෙම් බැන්දා. ඒ කුමාරයත් එක්ක විවාහ ගිවිසගෙන ආදිය තියෙද්දි ඒ කුමාරයත් හදිසියේම කාලක්‍රියා කලා. ඒ කළුරිය කලාට පස්සෙ ඈ වෙනුවෙනුත් අනික් රාජ කුමාරවරු ඇවිල්ලා මහා යුද්ධයකට කරුණු යෙදුනා. එසේ යුද්ධ සැරසෙනකොට තමයි ඇයත් තීරණය කලේ මේක ඕන නෑ, මං ගිහින් මහණ වෙනවා. හැබැයි මහණ වුනාට පස්සෙ අභිරූපී නන්දාවට වගේ රූප මදයක් ඇට තිබ්බෙ නෑ. අභිරූපී නන්දා තෙරණියට රූප මදය තිබුනනෙ. ඇට රූප මදය තිබ්බෙ නෑ, ඒ ඔක්කෝම අත්හැරලා මං හිතවත් වෙලා හිටපු මගේ ස්වාමිපුරුෂයා මට නැත්නම් මට වෙන කෙනෙක් ඕන නෑ කියලා ඈ පැවිදි වුනා. පැවිදි වෙලා ධර්මයට අවධානය යොමු කරලා නොබෝ කලකින්ම සියලු කෙලෙස් නසා අර්හත් තෙරණියක් බවට පත්වෙලා ඒ අර්හත් උත්තමාවිය මෙන්න මේ ගාථා වදාළා. බුදු සමිදාණන් තමයි අමා නිවනට පමුණුවන මාර්ගය වන මේ බොජ්ඣංග ධර්ම හත ගැන වදාළේ. ඉතින් මාත් ඒ ධර්ම ඔක්කොම දියුණු කරගත්තා. බුද්ධ ශාසනයේ තමයි බොජ්ඣංග ධර්ම - බොජ්ඣංග කියලා කියන්නෙ අවබෝධයට හේතුවෙන බෝධි අංග, මොනවද බෝධි අංග සති සම්බොජ්ඣංගය - සිහිය කියලා කියන්නෙ අවබෝධයට උවමනා කරන අංගයක්. ධම්මවිචය සම්බොජ්ඣංගය - ධර්ම ඥාණය කියලා කියන්නෙ දහම් දැනුම කියලා කියන්නෙ අවබෝධයට උවමනා කරන දෙයක්. විරිය සම්බොජ්ඣංගය - අකුසල් දුරු කිරීමටත්, කුසල් වැඩීමටත් වීර්යය තිබීම කියලා කියන්නෙ අවබෝධයට උවමනා කරන අංගයක්. පීති සම්බොජ්ඣංගය - ධර්මය පුරුදු කිරීමෙන්, ධර්මයේ හැසිරීමෙන් උපදින ප්‍රීතිය කියලා කියන්නෙ අවබෝධයට උවමනා කරන අංගයක්. පස්සද්ධි සම්බොජ්ඣංගය - ධර්මයේ හැසිරෙද්දි ඇතිවෙන කායික මානසික සැහැල්ලුව පස්සද්ධිය කියලා කියන්නෙ අවබෝධයට උවමනා කරන අංගයක්. සමාධි සම්බොජ්ඣංගය - කුසල් හිතක එකඟ භාවය සමාධිය කියලා කියන්නෙ අවබෝධයට උවමනා කරන අංගයක්. උපෙක්ඛා සම්බොජ්ඣංගය - උපෙක්ෂාව කියලා කියන්නෙ අවබෝධයට උවමනා කරන අංගයක්. මේ සප්ත බොජ්ඣංග ගැන භාග්‍යවතුන් වහන්සේ තමයි කියලා දුන්නෙ. ඉතින් මාත් ඒ ඔක්කෝම ධර්ම දියුණු කරගත්තා. මාත්

ධර්මය තුළින් ඒ භාග්‍යවතුන් වහන්සේව දැකගත්තා. හරී ලස්සන ප්‍රකාශයක්. දිට්ඨෝ’හි මේ සො භගවා අන්තිමෝ’යං සමුස්සයො, මම ඒ භාග්‍යවතුන් වහන්සේව ධර්මය තුළින් දැකගත්තා. ධර්මය තුළින් භාග්‍යවතුන් වහන්සේව දකිනවා කියලා කියන්නෙ පින්වතුනි, භාග්‍යවතුන් වහන්සේ දේශනා කරන යම් සැපයක් ඇත්ද, ඒ සැපය ඒකාන්ත සත්‍යයක් බව ධර්මය අවබෝධ කරපු රහතන් වහන්සේලා රහත් උත්තමාවියො දකිනවා. එතකොට ශාස්තෘන් වහන්සේ ගැන කොයිතරම් බලවත් ප්‍රසාදයක් හටගන්නවාද. මං ධර්මය තුළින්ම භාග්‍යවතුන් වහන්සේව දැකගත්තා. මේ තමයි මගේ අන්තිම ශරීරය. ඉපදෙන සංසාරෙ ගෙවිලා ගියා. නත්ථි දානි පුනබ්භවො, දැන් ඉතින් ආයෙමත් මට පුනර්භවයක් නම් නෑ. ඉපදෙන සංසාරය අවසන්. ඉපදෙන සංසාරය ඇතුලේ තමයි අර ඔක්කොම ප්‍රශ්න ටික තියෙන්නෙ. ආදරය කරන අය අහිමි වෙනවා, තමන්ගේ හීන ලෝක කඩාගෙන වැටෙනවා, ප්‍රිය අය වෙන් වෙද්දි ශෝක කරන්න සිද්ධ වෙනවා. හඬා වැළපෙන්න සිද්ධ වෙනවා. රූපය වැහැරිලා යනකොට වැහැරෙන රූපය ඉස්සරහ දුක උපදිනවා. මේ හැමදේම තියෙන්නෙ සංසාරයේ. ඉපදෙන සංසාරය ගෙවිලා ගියා නම් යළි පුනර්භවයක් නැත්නම්, ඒ ප්‍රශ්න ටික ඔක්කොම ඉවරයි. ප්‍රශ්න විසඳගත්ත කාන්තාවො. ප්‍රශ්න ඉස්සරහා සුසුම් හෙළ හෙළ හූල්ල හූල්ල හිටපු අය නෙවෙයි. තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවිකාභාවයට පත්වෙලා ප්‍රශ්න විසඳාගත්තු උත්තමාවියො. මහා පින්වන්ත අභිරූපී නන්දා අර්හත් උත්තමාවිය. මහා පින්වන්ත ජේන්තා අර්හත් උත්තමාවිය. ඉතින් අද අපි ඒ අර්හත් උත්තමාවියන්ගේ සොඳුරු චරිතාපදාන ඉගෙන ගත්තෙ. ඒ අර්හත් උත්තමාවියන්ට නමස්කාර කරමින් අපි ප්‍රාර්ථනා කරමු අපිටත් ඒ උතුම් රහතන් වහන්සේලා ඒ අර්හත් තෙරණින් වහන්සේලා නිවී සැනසුනු නිවනේ සැනසෙන්න ලැබේවා, සාදු සාදු සාදු!!!

අප විසින් රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් සක්දෙවිඳුන්, සතර වරම් දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවියෝ සතුටින් අනුමෝදන් වෙත්වා. අපගේ ඉෂ්ටකාමී හිතකාමී සියලු දෙවිවරු, ශ්‍රීමත් සුමන සමන් දෙව්රජ ප්‍රධාන පොළොව වාසී සියලු දෙවිවරු, මේ සියලු දෙවියෝ පින් අනුමෝදන්ව දිව්‍ය සැපයෙන් වැඩෙත්වා, ඒ දෙවියන්ගේ ආශිර්වාදය රැකවරණය උපකාරය අප හැමදෙනාට දෙවියෝ නොඅඩුවම සළසාදෙත්වා. දෙවියෝද සසර දුකින් අතමිදේවා. සාදු සාදු සාදු!!! ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට පින් අනුමෝදන් වෙත්වා. පින්වත් ලොකු

ස්වාමීන් වහන්සේ නිදුක්ව නිරෝගීව දීර්ඝායුෂ ලබත්වා. මේ ගෞතම ශාසනය තුළම උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරගන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද ධර්ම දේශනාව සඳහා දායකත්වය දරන ඔස්ට්‍රේලියාවේ අධ්‍යාපනය ලබන ඒ පින්වත් දියණියගේ නමින් මියපරලොව යන්න යෙදුනු පින්වත් වී.එම්. පුංචිබණ්ඩා සහ වී.ආර්.එම්. පොඩිඅප්පුහාමි කියන කිරිඅත්තලාටත්, ඒ. කුමාරසිංහ කිරිඅම්මාටත් මේ සියලුම පින් අනුමෝදන් වෙත්වා. අනන්ත සසර පුරාවට නමින් මියගියාවූ සියලූ ඥාතීන්ට පින් අනුමෝදන් වෙලා ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා, මේ දුක් සහිත වූ සංසාර ගමනින් ඒ ඥාතීන් සියලු දෙනා ඉතා ඉක්මණින් නිදහස් වෙත්වා කියන අදහසින් ඥාතීන්ට පින් අනුමෝදන් කරන්න. ධර්ම දානය කරන ඒ පින්වත් දියණියගේ සුජීවත්ව සිටින ආදරණීය දෙමව්පියන්ට පින් අනුමෝදන් වෙත්වා. සොහොයුරියට පින් අනුමෝදන් වෙත්වා. ගුරුහරුකම් කියාදුන්නු ගුරුවරුන්ට පින් අනුමෝදන් වෙත්වා. ඥාති හිතමිත්‍රාදීන් සියලුදෙනාට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. විශේෂයෙන් මේ වෙනකොට අසනීප තත්වයෙන් පසුවෙන පින්වත් ජේන් ඩිංගිරිමැණිකේ කිරිඅම්මාට පින් අනුමෝදන් වෙලා නිදුක් නිරෝගී සුව සැලසිලා දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ඒ පින්වත් දියණියටත්, පවුලේ හැමදෙනාටත් මේ සියලු පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදයෙන්, තෙරුවන් සරණින් සියලු දෙවියන්ගේ රැකවරණයෙන්, නිරතුරුව කල්‍යාණමිත්‍ර ඇසුර ලැබී සුවසේ පින් කරගන්න ධර්මයේ හැසිරෙන්නත්, චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්නත් වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. විශේෂයෙන් අද දායකත්වය දරනු ලබන පින්වත් දියණියට ඒ ඔස්ට්‍රේලියාවේ පශ්චාත් උපාධියේ වැඩ කටයුතු සුවසේම අවසන් කරලා ඒ කටයුතු කිසීම කරදරයකින් බාධාවකින් තොරව සිදු කරගෙන යළි මව්බිමට පැමිණීම පිණිස තෙරුවනේ ආශිර්වාදය සියලු දෙවියන්ගේ ආශිර්වාදය, මේ රැස් වූ පිනේ ආශිර්වාදය, නොඅඩුවම සැලසෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. ඉතින් ධර්මදානය සිද්ධ කරපු සුපින්වත් දියණියටත්, ඔබ හැමදෙනාටත්, ශ්‍රද්ධා රූපවාහිනී කාර්ය මණ්ඩලයේ සියලු දෙනාටත්, ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලා සියලුදෙනාටත් පින් අනුමෝදන් වෙලා සියලු දෙනාටම නිදුක් නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සැලසේවා, සුවසේ පින් රැස් කරගන්න, සුවසේ ධර්මයේ හැසිරෙන්න අවකාශ ලැබෙත්වා. මේ ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ

කරන්න හැමදෙනාට වාසනාව ලැබෙන්වා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=hsrapzwelLk

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මාගේ වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු මේ උතුම් දහම් දේශනාවට අනුග්‍රහය දරනු ලබන්නේ කුමාරිගම, උහන, අම්පාර කියන ලිපිනයේ අංක 20/69/1 නිවසේ පදිංචි පින්වත් ජී.ජී. පොඩිමැණිකේ මහත්මිය අංක 20/69 හි පදිංචි පින්වත් එම්. අනුලාවතී මැණිකේ මහත්මිය, අංක 20/75 පදිංචි පින්වත් විමලා හතුරුසිංහ මහත්මිය, අංක 20/47/1 නිවසේ පදිංචි පින්වත් ජේ.එම්. පොඩිමැණිකේ මහත්මිය සහ අංක 20/49/3 නිවසේ පදිංචි පින්වත් එස්.ජී. චන්ද්‍රාවතී මහත්මිය යන මේ පින්වතුන්ලා විසිනුයි අද දවසේ මේ ධර්ම දානමය පින්කම සිද්ධ කරන්නෙ. තමන්ගේ ජීවිතයේ නොයෙකුත් පුණ්‍ය ප්‍රාර්ථනාවන් තබා ගනිමින් අද ඒ පින්වතුන්ලා ධර්ම දානමය පින්කම මේ විදියට සිද්ධ කරනවා. පින්වතුනි අපේ ජීවිතයේ පින රැස් කිරීම කියලා කියන්නෙ අපි හැමදෙනා විසින් නොපමාව කරගත යුතු දෙයක්. භාග්‍යවතුන් වහන්සේ දේශනා කලේ පුඤ්ඤං චෙ පුරිසො කයිරා, යම්කිසි කෙනෙක් ජීවිතයට පින් රැස් කරගත්තොත්, කයිරා තෙ පුනප්පුනං, ඒ සිත කය වචනයෙන් කරගත්තු පින ආයෙ ආයෙමත් කරගන්න ඕන. තම්හි චන්දං කයිරාථ, සිත කය වචනයෙන් පින් කිරීම ගැන ලොකු ආසාවක් හිතේ ඇතිකරගන්න ඕන. හේතුව, සුඛො පුඤ්ඤස්ස උච්චයො, හිතේම තමයි මේ ජීවිතේ සැපය සතුට සැනසිල්ල මේ ඔක්කොම හදලා දෙන්නෙ. සුඛො

පුඤ්ඤස්ස උච්ඡයො, පින යනු සැපයටම කියනා නමකි. පින කියන්නෙ සැපයටමයි. ඒ කියන්නෙ මේ දුක් විඳ විඳ යන ජීවිත වලට සැපය සැනසිල්ල උදාවුනේ පින නිසාමයි. පින් රැස් කරලා තිබුනු ජීවිත සැපවත් වෙච්චි හැටි තමයි අපි මේ දේශනා මාලාවේදී ඉගෙන ගන්නෙ, විශේෂයෙන් සාංසාරික ගමනේ පින් රැස් කරගෙන ආව ස්ත්‍රී ජීවිත. ඔය ස්ත්‍රී ජීවිත වල දුක ගැනත් හොඳට තේරෙනවා, ඒ තෙරණිවරුන්ගේ චරිතාපදාන ඉගෙන ගන්නකොට. දැන් බලන්න අද අපිට ඉගෙන ගන්න තියෙන්නෙ සුමංගල මාතා කියන තෙරණියගේ සිදුවීම. ඒ අර්හත් උත්තමාවිය ප්‍රසිද්ධ වුනේ සුමංගල මාතා. මේ සුමංගල මාතා අර්හත් උත්තමාවියගේ ජීවිතේ සිදුවීම මෙහෙමයි. අපේ ගෞතම අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළ වෙන කාලයේ ඈ සැවැත්නුවර බොහෝම දිළිඳු පවුලක උපන්නා. එහෙමනම් ඇය ධනවත් වීම සම්බන්ධව රැස් කරගත්ත පිනක් ඈට තිබිලා නෑ. බොහෝ ධනවත් තැනැත්තියක්ව උපදින්න තරම් පිනක් ඈට තිබිලා නෑ, සංසාරෙ දානෙ පූජා කරලා අඩුයි. මේ දන් පූජා කිරීමේ දෝෂයක් තිබුනු නිසා ඇය දිළිඳු පවුලක උපන්නා. දිළිඳු පවුලේ උපදිනකොට ඇයට යාන්තම් තේරෙන වයසට එද්දිම ජීවිතේ ගැටගහගන්න මව්පියො ගොඩාක් මහන්සි වෙනවා. ඉතින් ඇයටත් සිද්ධ වුනා ඒකෙම කොටස්කාරියක් බවට පත්වෙන්න. ඒ නිසා සාමාන්‍ය ධනය තියෙන නිවෙස්වල ගෑණු ළමයි අධ්‍යාපනය ලබන පිළිවෙලට, අධ්‍යාපනයක් ලබාගන්න ඇයට බැරිව ගියා. ඇයට සිද්ධ වුනා මව්පියන් එක්කම හරි හරියට වැඩ කරන්න. ඉතින් කුලී වැඩ වලට යනවා, හේන් වැඩ වලට යනවා, ගොවිතැන් වැඩ වලට යනවා, අනිත් මිනිස්සුන්ගේ කටයුතු වලදී ඒවාට අත් උදව් දෙන්න යනවා, මෙහෙම මෙහෙම සාමාන්‍යයෙන් තේරෙන වයසේ ඉඳලා ගොඩාක් මහන්සි වෙච්චි කාන්තාවක්. ජීවිතේ ගැටගහගන්න සෑහෙන්න අරගලයකට මුහුණ දෙන්න සිද්ධ වෙචචි කාන්තාවක්. ඉතින් ඒ විදියට ඇය ටික ටික තරුණ වයසට එළඹෙනවා. තරුණ වයසට පැමිණෙද්දි ඒ තරුණ වයසෙන් විශේෂයෙන් ඇයට ගොඩාක් තිබුනු දෙයක් කියනවා, නිතර වී කොටන්න සිද්ධ වුනා. ඇය නිතරම කරපු එකක් කියනවා වී කෙටීම. ඉතින් වී කොටනවා කියන එක පින්වතුනේ නිතර නිතර කරනකොට ඒක කයට කොච්චර වෙහෙසක්ද, නමුත් කායික වෙහෙස කියලා බෑ, ඇය බොහොම සුකුමාල වයසේදී පවා තරුණ වයසේදී පවා ඇයට මේක නොනවත්වා සිද්ධ කරන්න සිදුවුනා. ඉතින් ඔහොම තරුණ වයසට එළඹෙනකොට මව්පියන්ට වත්පොහොසත්කම් තියෙන පිළිවෙලට ඒ මව්පියන්ගේ පව්ල් පැලැන්තියට ගැලපෙන ජාතියේ පවුලකට ඇව

විවාහ කරලා දෙනවා. ඇගේ විවාහ ජීවිතය ගත්තහම ඒකෙත් කිසි සැනසිල්ලක් නෑ. ඉතින් මෙහෙම ජීවිත ඕනතරම් තියෙනවා පින්වතුනි, මේ ලෝකයේ. මෙහෙම ජීවිත ඕනතරම් තියෙනවා. ඇගේ විවාහ ජීවිතය දුප්පත් තරුණයෙක් එක්ක දීග ගිහිල්ලා ඒ දුප්පත් තරුණයා දුප්පත්කම අස්සේම තව නොමනාකම් ගොඩාක් තිබිලා තියෙනවා. ඔහුත් එක්ක ජීවිතය ගැටගහගන්නකොටත් මැයට සිද්ධ වුනා නොයෙක් වැඩපල කරන්න. මේ පවුල් සංස්ථාව අරගෙන යෑම පිණිස අනුන්ට බැලමෙහෙවරකම් කරන්න ඇයට සිද්ධ වුනා. ඉතින් ඇගේ ලෝකයට යම් සැනසිල්ලක් අරගෙන එන කෙනෙක් වුනේ ඇගේම කුසින් උපන්න පුතා. මේ යුවළට පුතෙක් උපන්නා. ඒ පුත්‍රයාට මේ දෙන්නා නම තැබුවා සුමංගල. මේ සුමංගල කියන පුතා ඇගේ ලෝකය පිරෙව්වා. ඇ දැන් මේ පුතා නිසා තමයි මේ මනුස්සයත් එක්ක දීග කාගෙන මේ ජීවිතය අඛණ්ඩව පවත්වගෙන ගියෙ. ඇතැම් විවාහ ජීවිත තියෙනවා එහෙම. ඒ කියන්නෙ මේ සුමංගල මාතා තෙරණියගේ සිද්ධිය දකිද්දි තේරෙනවා, මොකද ඇය කියනවා, ථෙරී ගාථාවේදී මං ඒ මිනිහගේ කුඩේටවත් කැමැති නෑ කියනවා. එතකොට තේරෙනවා ඇ විවාහ වෙලා එකට වාසය කරපු මනුස්සයා ඇයට අප්‍රසන්නයි. ඇතැම් මිනිස්සු ඉන්නවා විවාහ දිවියට එළඹිච්චි තමන්ගේ බිරිඳට අප්‍රසන්න වෙන ක්‍රියාවලින් යුක්ත. ඇතැම් කාන්තාවන්ගේ විවාහ ජීවිත තියෙනවා ස්වාමිපුරුෂයා බීගෙන, බේබද්දෙක් ගෙදරට එන්නෙ හැමදාම. ස්වාමිපුරුෂයා කෙලින් ඉන්නවා බිරිඳට බලාගන්න නෑ. ස්වාමිපුරුෂයා ඇවිල්ලා, මේ මත්පැන් බීගෙන ඇවිල්ලා වැටුනහම ඒ බේබද්දාගේ ගඳ විඳ විඳ ඉන්න ඕන. ඊළඟට ඇගේ වමනේ දාගෙන, ඒ වමනෙ සුද්ධ කරන්න ඕන. ස්වාමිපුරුෂයාව අප්පිරියා වෙන විවාහ ජීවිත තියෙනවා. ඊළඟට ඇතැම් ස්වාමිපුරුෂයො ඉන්නවා, ඇතැම් මිනිස්සු බිරිඳ ඉද්දි බිරිඳට දැනෙන්නම සල්ලාලකම් කරනවා. ඒ සල්ලාලකම් විඳගෙන ඉන්න ඕන. එහෙම විඳගෙන ඉන්න කාන්තාවො කොච්චර ඇත්ද. ඇතැම් කාන්තාවො විවාහ ජීවිතයට එළඹුනාට පස්සෙ ස්වාමිපුරුෂයා මොන නොසණ්ඩාලකම කරත් දරුවො ලැබුනාට පස්සෙ දරුවො හින්දා එකට ඉන්නවා. දරුවො හින්දා විවාහය කඩාගන්න විදියක් නෑ. දරු පැටව් වෙනුවෙන් ඉවසනවා. එහෙම කොච්චර තියෙනවාද. දැන් සුමංගල මාතාවගේ ජීවිතය ගත්තහමත් අපිට තේරෙනවා ඒ වගේ කතන්දරයක් තමයි එතන තිබුනෙ. එතකොට මේක පේනවා, මේ විදියට බලපුවාම ඇගේ ජීවිතය මහා අවාසනාවන්තයි. ඇය ගොඩාක් කම්කටොලු මැද පුංචි කාලෙ ඉඳලා මේ විවාහ ජීවිතයට එළඹිලා දරුවො හම්බෙනකම්ම

සැනසිල්ලක් නැතිව හිටියෙ. හැබැයි උපන්න පුත්‍රයා නැණවතෙක්, පින්වන්තයෙක්, පශ්චිමභවිකයෙක්. පශ්චිමභවිකයා කියලා කිව්වෙ අර්හත්වය සාක්ෂාත් කරන කෙනෙක්. අන්තිම ජීවිතේ උපන්නෙ. ඉතින් ඒ පුතා ඉපදිලා තරුණ වයසට එනකොට ඇය පුතාගේ වැඩීම දිහා බල බල සතුටු වුනා. අම්මා කෙනෙක් විදියට තමන්ගේ පුතා වයසින් මෝරලා ලස්සනට වැඩෙනකොට ඈ හරියට සතුටු වුනා. ඈ මේ විදියට තමන්ගේ පුත්‍රයා ලොකු වෙලා ඒ වැඩිමහල් වෙච්චි පුතත් එක්ක ඇය ජීවිතේ ගතකරනකොට පුතාට අහන්න ලැබෙනවා බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය. ඒ ධර්මය අහන්න ලැබිච්චි මේ සුමංගල කියන පින් තියෙන ඥාණවන්ත පශ්චිමභවික පුත්‍රයා මව්පියන්ගේ අවසරය පැතුවා, අම්මේ තාත්තේ බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය මං ඇහුවා. මට බුද්ධ ශාසනයේ පැවිදි වෙන්න අවසර ඕන. ඉතින් මේ දෙමව්පියො දෙන්නා අවසර දුන්නා. ඒ අවසරය අරගෙන සුමංගල කියන මේ තරුණයා බුද්ධ ශාසනයේ පැවිදි වුනා, පැවිදි වෙලා ඉතාම කෙටි කලකින් අර්හත්වය සාක්ෂාත් කරගෙන රහතන් වහන්සේ නමක් බවට පත්වුනා. දැන් මේ රහතන් වහන්සේ තමන්ගේ මව්තුමියට ධර්මයක් කියනවා. මව්තුමියට ධර්මය කියනකොට කියනකොට අම්මටත් නිකං තේරෙන්න ගත්තා මේ බණ පද එකින් එක. ඒ බණ පද තේරෙනකොට අම්මාටත් හිතක් උපදිනවා අනේ මටත් පැවිදි වෙන්න ඕන. මගේ පුතා ගියපු පාරේම මාත් යන්න ඕන. ඔන්න අම්මා තීරණය කලා. ඒ අම්මා ඔක්කොම ගෘහ බන්ධන අත්හැරලා ඇවිල්ලා බුද්ධ ශාසනයේ මහණ වුනා. මෙහෙණින් වහන්සේ නමක් බවට පත්වුනා. ඒ මෙහෙණින් වහන්සේව ප්‍රසිද්ධ වෙන්නෙ සුමංගල මාතා. සුමංගල තෙරුන්ගේ අම්මා වූ භික්ෂුණිය. මේ සුමංගල මාතා තෙරණිය පැවිදි වුනාට පස්සෙ තමයි ඇගේ පින ඉස්මතු වෙන්නෙ. එතකොට බලන්න ගෘහ ජීවිතය සම්පූර්ණයෙන්ම දුක් කම්කටොළු රැසක්. මේ දුක් කම්කටොළු රැස නිසා ඇය තෝරගන්නවා පැවිද්ද. ඈ පැවිද්ද තෝරාගන්නකොට ඒ පැවිද්ද තුළ ඇගේ පින වැඩ කරනවා. ඉතාම ටික කාලයයි, සියලු කෙලෙස් නසා අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. ඒ අර්හත් උත්තමාවිය, අර්හත්වයේ සැප විඳ විඳ මේ ගාථා කියනවා. හැමදේකින්ම මිදුනු ඔයා මෝල්ගහෙනුත් නිදහස් වුනු එකමයි හොඳ. මොකද මේ මෝල් ගහෙන් වී කොට කොට අත්දෙක රිදෙනකන් මෝල්ගහෙන් වැඩි කාලයක් වී කෙටුවානෙ ජීවිතෙන් භාගයක්ම කලේ ඒක. ඉතින් ඒ නිසා මේ මෝල්ගහෙන් මිදෙන්න පුදුම අසාවකින් ඉන්න ඇත්තෙ. ඒ නිසා ඒ අර්හත් උත්තමාවියගේ ථෙරගාථා වලත් කියවෙනවා මෝල්ගහෙනුත් මිදිච්චි එකයි

හොද. මගේ සැමියා කිසි ලැජ්ජාවක් නැති මිනිහෙක්. මං ඒ මිනිහාගේ කුඩේටවත් කැමැති නෑ. ඒ මිනිහාගේ කුඩේටවත් කැමැති නැත්නම් මිනිහා ගැන කවර කතාද. මේ මනුස්සයා පිළිකුල් කරපු කාන්තාවක්. මං ඒ මනුස්සයාගේ කුඩේටවත් කැමැති නෑ. මං බත් උයපු හැලියෙනුත් පිළුණු ගඳ ආවෙ. ඒ කිව්වෙ නිවසේ පැවැත්ම වෙනුවෙන් මේ මනුස්සයා මොකුත් කරලා නෑ. කෑම ඉව්වට පස්සෙ උයපු කෑම නරක් වෙලා පිළුණු වෙනකල් ඒ මුට්ටියෙ බත තියෙනවා. ඉතින් මුට්ටියෙ බත තිබිලා තිබිලා අර පිළුණු වෙච්චි ආහාර නිතර නිතර තිබීම නිසා සාමාන්‍යයෙන් ඒ මුට්ටියෙන් ආවා කියනවා පිළුණු ගඳ. බත් උයපු හැලියෙනුත් ආවෙ පිළුණු ගඳ. රාගං ච අහං දෝසං ච චිට්ඨීති චිට්ඨී තීති විහනාමි, චිටි චිටි ශබ්දයෙන් මං මේ රාග ද්වේෂත් නැති කරලා දැම්මා. චිටි චිටි ශබ්දය කියලා කියන්නෙ බතක් ඉදෙන හඬනෙ. ඉතින් මේ අර්හත් උත්තමාවිය ථෙරීගාථාවේදී ඒකත් සම්බන්ධ කරගන්නවා. චිටි චිටි හඬින්ම රාග, ද්වේෂ කියන දෙකත් මං නැති කරලා දැම්මා. මං දැන් ගහක් සෙවණට ගියාම හජ්පා තියෙන සැපයක්. මං හරිම සැපසේ දැන් ධ්‍යාන වඩනවා. එහෙම තමයි ඒ රහත් තෙරණිය ගාථා වදාළේ. ඇත්තෙන්ම පින්වතුනි මේ විඳවන ජීවිත වලට සැනසිල්ල, විඳවන ජීවිත වලට සැනසිල්ල හොයාගෙනනෙ අපි මේ එක එක ඒවා කරන්නෙ. තරුණ වයසේ අය විවාහ ජීවිත වලට එළඹෙනවා ජීවිතේට සැනසුම හොයාගෙන. හැබැයි සැනසුම හොයාගෙන විවාහපත්වෙන ජීවිත විවාහය හින්දම කොච්චර දුක් වල වැටෙනවා ඇත්ද. දැන් බලන්න මේ නොගැලපෙන දෙන්නෙක් විවාහපත් වුනොත් එහෙම ඒ විවාහය කියන්නෙම වදයක්නෙ. ස්වාමිපුරුෂයා බේබද්දෙක් වුනොත් කාන්තාවට ඒක කොච්චර වදයක්ද. ස්වාමිපුරුෂයා සල්ලාලයෙක් වුනොත් කාන්තාවකට ඒක කොච්චර වදයක්ද. ස්වාමිපුරුෂයා මහා නොසණ්ඩාල මනුස්සයෙක් වුනොත් එහෙම කාන්තාවකට ඒක කොච්චර වෙහෙසක්ද. ස්වාමිපුරුෂයා බොහොම දරුණු පරුෂ ගති ඇති නිතර රණ්ඩු දබර කරන මිනිහෙක් වුනොත් කාන්තාවකට ඒක කොච්චර වදයක්ද. ස්වාමිපුරුෂයා නිතර කාන්තාව සැක කරන කෙනෙක් වුනොත් ඒක ඒ ස්ත්‍රියට කොච්චර වදයක්ද. දැන් මේ ඔක්කොම කම්කටොළු තියෙනවා අපි සැප හොයාගෙන යන ජීවිතේ. සැපය සැනසීම හොයාගෙන නානප්‍රකාර දේ කරනවා. ඒ නානප්‍රකාර දේවල් තුළ අපි හොයන සැපය නැති බව අපිට මේ ජීවිත යාත්‍රාවේ යද්දි තේරෙනවා. අපි පුංචි සන්ධියේ අපි හිතනවා, අපිට කියනවා සමාජය විසින් හොඳට ඉගෙන ගත්තොත් අනාගතය සැපයි කියලා. අපි ඒ පුංචි සන්ධියේ අධ්‍යාපනය ලබන්නේ මතු අනාගතයේ සිහිනයක්

තියාගෙන. නමුත් අපි ඒ හිතන තරම් සැපක් අපි කොච්චර හොඳට ඉගෙන ගත්තත් ලබන්න බැරි බව අධ්‍යාපනයෙන් ඉහළට යනකොට තේරෙනවා. අපි හිතමු උසස් අධ්‍යාපනය ලබලා විශ්වවිද්‍යාල වලට ගියොත් එහෙම එතන සැපයි කියලා හීන මවනවා විශ්වවිද්‍යාලයට නොගිය ළමයි. එතනට ගියාම ඒ හිතන සැප නෑ. අසවල් අසවල් රස්සා කළොත් නම් සැපයි කියලා මතයක් තියෙනවා. රස්සා කරන්න ගත්තහම ඒ කියන සැපය ඒකෙ නෑ. විවාහ ජීවිතේ කියලා කියන්නෙ හරි සුන්දර එකක් කියලා මවලා පෙන්වනවා. විවාහපත් වුනාම ඒ අපි හොයන සැපය එතන නෑ. ඉතින් මේ ක්‍රමයට තමයි ජීවිතය යන්නෙ. මේ ක්‍රමයට ගිහිල්ලා නාකි වෙලා මැරිලා යනවා. බුදු කෙනෙකුගේ ශාසනයක් මුණගැහිලා ඒ බුදුරජාණන් වහන්සේගේ ධර්මය අහන්න ලැබුනොත් ධර්මය තුළින් සත්‍යය ඇහෙනවා. ඒ සත්‍යවාදී වූ බුදුරජාණන් වහන්සේගේ වචනය අනුව ගියොත් නම් අන්න සැප තියෙනවා. ඒ සැපය බලන්න මේ අර්හත් උත්තමාවිය වර්ණනා කරන හැටි. හප්පා තියෙන සැපයක්. මං හරිම සැපසේ ධ්‍යාන වඩනවා. ගෙයක් දොරක් නෑ, ගහක් යට භාවනා කරන්නෙ. ඉස්සර වගේ ඇඳුම් ආයිත්තම් නැහැ. තමන්ට කියලා මොකුත්ම නැහැ. තමන්ට කියලා ඉඩමක් කඩමක්, තමන්ව අනාගතේ බලාගන්න දරුවො මේ මුකුත් නෑ. මේ මුකුත්ම නැති වුනත් ධර්මයෙන් උපන්න සැප තියෙනවා. හප්පා තියෙන සැපයක්. ඉතින් ඒ සුමංගල මාතා කියන අර්හත් උත්තමාවියගේ ගාථා සහ චරිතාපදානය. දැන් බලන්න එතන තිබුනේ විවාහයකට පත්වෙලා විඳවපු විඳවිල්ලක්. දැන් ඊළඟ එක වෙනම එකක්. ඒ අඪ්ඪකාසී තෙරණියගේ සිද්ධිය. අඪ්ඪකාසී තෙරණිය කියලා කියන්නෙ පින්වතුනේ වෛශ්‍යාවක්. වෙසඟනක්. ඒක සිදුවුනේ මෙහෙම. මේ මහා භද්‍ර කල්පයේ අපේ ගෞතම අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ පහළ වෙන්න පෙර මේ ලෝකයට පහළ වුනා මිනිස්සුන්ගේ වයස අවුරුදු විසිදාහක් වගේ දීර්ඝව පැවති කාලෙක කාශ්‍යප අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ. කාශ්‍යප බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළ වෙලා හිටපු කාලයේ මේ අඪ්ඪකාසී ඒ කාලයේත් මනුස්ස ස්ත්‍රියක්. ඈ තරුණ කාලෙම භික්ෂුණී සංඝයා අතරේ පැවිදි වුනා. කාශ්‍යප බුද්ධ කාලෙ. පැවිදි වෙලා භික්ෂුණියක් විදියට කටයුතු කරගෙන ඉන්නකොට මොකක්හරි කාරණාවක් හේතු කරගෙන මේ භික්ෂුණීන් භික්ෂුණීන් අතරෙ පොඩි රණ්ඩුවක් ඇතිවුනා. ඔය රණ්ඩුව ඇතිවෙලා කිපිලා ඉන්න මොහොතක ඕකට ඔය රණ්ඩුව සංසිඳවන්න අර්හත් උත්තමාවියක් මැදිහත් වුනා. රහත් තෙරණියක්. රහත් තෙරණියක් බාහිරින් පෙන් නැනෙ. මේ වැඩ ඉන්නෙ රහත්

තෙරණියක් කියලා බාහිරින් හොයන්න බැනෙ. ඒ රහත් තෙරණිය ඒ රණ්ඩුවට කරුණු පවසන්න එනකොට මේ භික්ෂුණිය කිපුනා. කිපිලා අර අර්හත් උත්තමාවියට දෝෂාරෝපණය කලා කියනවා මේ ගණිකාව මොකට මැදිහත් වුනාද මේකට කියලා. මේ වෛශ්‍යාව මොකටද මේකට මැදිහත් වුනේ කියලා අර අර්හත් උත්තමාවියට දොස් කිව්වා. ඒ අර්හත් උත්තමාවිය තමාට දොස් කිව්වා කියලා දැනගත්ත ගමන් නිහඬව නිශ්ශබ්ද වෙලා ඉක්මණින් එතනින් අයින් වුනා. මොකද මේ දෝෂය වැඩිපුර වැඩිපුර කියන්න ගියොත් ඇය තව තව පව් පුරවගන්න නිසා. ඇයට බැරිවුනා පින්වතුනි මේ වෙච්චි වැරැද්ද හදාගන්න, කටකින් වචනය පිටවුනා. මේ කටවල් වලින් පිටවෙන වචන අතරේ භයානකයි ගුණවතුන්ට නින්දා කිරීම, ගුණවතුන්ට අපහාස කිරීම. මේ කට නම් අඟල් තුනයි හතරයි පළල. හැබැයි මේ කටකින් ගුණවතෙකුට අපහාසයක්, නින්දාවක් සිද්ධ වුනොත් එහෙම පින්වතුනේ තමන් චේතනා පහළ කොට කටින් පිට කරපු වචනෙට තමන්ට විඳවන්න සිද්ධ වෙනවා. ඒක හොඳට මතක තියාගත යුතු එකක්. මොකද හරියට ගුණවතුන්ට අපහාස කිරීමේ රැළි රටේ යනවා. ඒ රැල්ලවල් වලට ඔබ මැදිහත්වෙන්න එපා. මැදිහත් වෙලා නිකං ජීවිත වනසාගන්න එපා. බලන්න මේවා කියවනකොට තේරෙනවා ඒක කොච්චර කටුකයි ද කියලා. බුද්ධ දේශනාවේ තියෙන්නෙ මේ කර්මය ගැන යා දෙසං වපතේ බීජං, වපුරන පිළිවෙලක් ඇත්ද, තාදිසං හරපේ ඵලං, වපුරන පිළිවෙලටයි ඵල හටගන්නෙ. කල්‍යාණකාරී කල්‍යාණං, හොඳ දේ වැපිරුවොත් හොඳ දේ හම්බුවෙනවා. පාපකාරී ච පාපනං, පව්ටු දේ නම් වපුරන්නෙ පව්ටු දෙයින් පව්ටු දෙයක්ම උපදිනවා. කාශ්‍යප බුද්ධ කාලයේ භික්ෂුණී සංඝයා අතරේ පැවිදි වෙලත් පව්ටු දෙයක් වපුර ගත්තා. පව්ටු දේ ලැබෙනවා. මේ කාශ්‍යප බුද්ධ කාලෙ ඒ ජීවිතෙන් චුත වෙච්චි ගමන් කෙළින්ම ගියා කියනවා නිරයේ. නිරයේ ගිහිල්ලා අප්‍රමාණ දුක් විඳලා විඳලා අපේ ගෞතම අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළ වෙන යුගයේ ඇය උපදිනවා, රජගහනුවර. රජගහනුවර හොඳ කුලවත් ජනයා මැද, හොඳ වංශවත් ජනයා මැද වැදගත් විදියට ඉන්න මිනිස්සු මැද ඈට වෙසඟනක් වෙන්න සිද්ධ වුනා. ඇය තරුණ වයසට එනකොට බොහෝම හැඩකාරයි, ලස්සනයි. ඒ ලස්සන නිසාම හැඩකාර කම නිසාම ඇයව තනි පුරුෂයෙකුට දෙන්න බැරිකමක් යෙදුනා. එක මනුස්සයෙකුට ඈව අරගෙන රකින්නත් බෑ. මොකද අනිත් මිනිස්සු ඈ වෙනුවෙන් පොරකනවා. රජ්ජුරුවන්ට මේ ආරංචිය ගියා. රජ්ජුරුවො කල්පනා කලා එහෙනම් මෑට වෛශ්‍යා තනතුර, වෙසඟන කියන තනතුර, එහෙම

නැත්නම් ඒ කාලෙ කියනවා නගරශෝභිනී කියන තනතුර රජ්ජුරුවො ප්‍රධානය කලා. ඒ නගරශෝභිනී කියන තනතුර කියලා කියන්නෙ පින්වතුනෙ සැප සහගත තනතුරක් නෙවෙයි. ස්ත්‍රියක් කැමැතියි තමන්ට ආදරේ කරන පුරුෂයෙක් ඉන්නවා නම්. ඒ තමන්ට ආදරය කරන පුරුෂයාත් එක්ක විවාහ ජීවිතයක් ගත කරගෙන දරු පැටවු හදාගෙන ඉන්න ජීවිතේකට සාමාන්‍ය ස්ත්‍රියක් කැමැතියි. මැටත් ඒ කැමැත්ත තිබුනා. නමුත් දැන් රජ අණකින් ඇය වෛශ්‍යාවක් වුනා. ඇට හැමෝම කතා කරන්නෙ වෛශ්‍යා. ඈ සමීපයට පුරුෂයො එනවා. ආදරයෙන් නෙවෙයි, ඈ සමීපයට පුරුෂයො එන්නෙ ඇයව ප්‍රයෝජනයට අරගන්න විතරයි. ඇය සල්ලිවලට ගන්න, සල්ලි වලට පාවිච්චි කරන එක්තරා ස්ත්‍රියක්. ඇයට කවුරුත් සෙනෙහස දැක්වූවෙ නෑ. ඇයට කාගෙන්වත් ආදරයක් හම්බුනේ නෑ. ඈ ආදරය පතනවා, ඈ ස්නේහය පතනවා. හැබැයි රැස් කරගත්ත කර්ම විපාකය නිසා ඇයට එය ලැබෙන්නෙ නෑ. ඇයට හැමෝගෙන්ම ලැබෙනවා වෛශ්‍යාව, වෙසඟන කියන වචනය. මහා ධන සම්පත් තිබුනා. මොකද ඇය ටික ටික ප්‍රසිද්ධ වෙනකොට ඇයව ඇසුරු කරන්න සුළු මුදලකින් පුළුවන්කමක් ලැබුන් නෑ. කාසි කියන ජනපදයක් තිබුනා, ඒ කාසි කියන ජනපදයට ඒ ජනපදයේ සාමාන්‍ය බදු ආදායමක් තියෙනවානෙ, ඒ බදු ආදායම වගේ ආදායමක් ඇයට ලැබෙනවා. කාසි ජනපදයේ මිනිස්සු රජයට ගෙවන බදු මුදල වගේ මුදලක් ඇයට ලැබෙනවා. ඒ තරම් ධනයක් ඇයට හම්බෙනවා. ඒ තරම් පුරුෂයො ඇයව ඇසුරු කලා. සල්ලි තිබ්බට සැපය, සතුට, සැනසිල්ල, සුවය මේවා නෑ. වෛශ්‍යාවක්. වෙසඟනක් විදියට එක එක දවසට එක එක මොහොතට එක එක පුරුෂයාව සතුටු කර කර ඈ ඒ විදියට ජීවිතේ ගත කරනකොට ඇය මේ ථෙරීගාථා අටුවාවෙ කියනවා ඒත් මට වාසනාවක් තිබුනා, ඒ අවාසනාවන්ත කාලකණ්ණි ජීවිතේ මට වාසනාවක් තිබුනා. ඒ වාසනාව කියලා ඇය හැඳින්වූයේ සල්ලි තිබීම නොවේ. ඇගේ රූපය නොවේ. වාසනාව මොකක්ද, කල්‍යාණමිත්‍ර භික්ෂුණීන් වහන්සේලා ඇසුරු කරන්න මට අවස්ථාව ලැබුනා. ඇය වෛශ්‍යාවක් වෙලත් ඇයට භික්ෂුණීන්ගේ ඇසුර ලැබුනා. ඇය නිතර නිතර භික්ෂුණීන් ඇසුරු කරන භික්ෂුණීන් වහන්සේලා වඩම්මවලා තමන්ගේ දානයෙන් දන් දෙන, භික්ෂුණීන් වහන්සේලාගෙන් බණ පද අහන මෙහෙම කාන්තාවක් බවට පත්වුනා. එතකොට මේ අඩ්ඪකාසි ඒ නම ප්‍රසිද්ධ වුනේ අඩ්ඪකාසී නමින්. අඩ්ඪකාසී ඉක්මණින් ඉක්මණින් ධර්මයටම යොමු වුනා. ධර්මයටම යොමු වෙලා දවසක් බණ අහලා භික්ෂුණීන්ගෙන් අවසර පැතුවා අනේ මේ භික්ෂුණීන් වහන්ස මාත්

කැමැතියි  බුද්ධ ශාසනයේ පැවිද්දට. ඉතින් මාවත් පැවිදි කරගන්න පුලුවන්ද. ඉතින් ඇයත් පැවිදි වුනා. ඇය පැවිදි වුනාට පස්සෙ මේ අෂ්ට ගරු ධර්ම ගැන පැහැදිලි කරනකොට ඔබට කියලා දුන්නානෙ, භික්ෂුණීන් වහන්සේලාට පැවිදි වෙච්චි ගමන් උපසම්පදාව ලැබෙන් නෑ. සික්ඛමානාවක් විදියට අවුරුදු දෙකක කාලයක් අනිවාර්යයෙන් ඉන්න ඕන. සික්ඛමානා කියලා කියන්නෙ උපසම්පදාව පිණිස හික්මෙන භික්ෂුණියක් විදියට. ඇය සික්ඛමානාවක් විදියට අවුරුදු දෙකක කාලයක් ඉඳලා, එතකොට මේ මෙහෙණි ආරාමයක හිටියේ, ඒ ආරාමයේ හොඳ ආරක්ෂාවක් තිබුනා. ඒ කාලෙ පින්වතුනේ රාජ්‍ය අනුග්‍රහය සහිතවනේ ආරාම ආදිය තිබුනෙ. එතකොට හොඳ රැකවරණයක් තිබුනා. ඒ රැකවරණය ඇතුව පාඩුවෙ සිල් පුරාගෙන ගුණධර්ම දියුණු කරගෙන මේ සික්ඛාමනාව අඩ්ඪකාසී තෙරණිය වැඩ වාසය කලා. ඇයට උවමනා වුනා අවුරුදු දෙක ඇවෑමෙන් උපසම්පදාව ලබාගන්න. ඉතින් ඒ කාලෙ වෙනකොට භාග්‍යවතුන් වහන්සේගේ වචනයෙන්, භාග්‍යවතුන් වහන්සේගේ අවසරයෙන් තමයි උපසම්පදාව ලබාගත යුත්තෙ. හැබැයි අඩ්ඪකාසීට පාරට බැහැලා ගමනක් යන්න විදියක් නෑ. ධූර්ථයො බලාගෙන ඉන්නවා ඈව පැහැර ගන්න. බලන්න තිබුනු ජරමර. අඩ්ඪකාසී කියන මේ රූපවත් කාන්තාවට ඈ තෙරණියක් බවට පත්වෙලාත් ඈ දිහා මේ භික්ෂුණියක්නේ කියලා බලන්න බැරි පිරිසක් හිටියා. ඇයව පැහැරගන්න ධූර්ථයො බලාගෙන ඉන්නවා. ඇයව ඇසුරු කරපු සල්ලාල පුරුෂයො ඈව පැහැරගන්න බලාගෙන ඉන්නවා. ඇට මේ මෙහෙණවරෙන් එළියට ඇවිල්ලා තනිපංගලමේ ගමනක් යන්න ඇට ආරක්ෂාව මදි. ඇට ආරංචිය තිබුනා තමන්ව පැහැරගන්න ධූර්ථයො බලාගෙන ඉන්නවා කියලා. ඉතින් ඇය දූත පුරුෂයෙක්ව ගෙන්වලා පණිවිඩකාරයෙක්ව ගෙන්නලා ඒ පණිවිඩ කාරයා අතේ භාග්‍යවතුන් වහන්සේට පණිවිඩයක් යවනවා, ස්වාමීනී මං පැවිදි වෙලා සික්ඛාමානාවක් විදියට සුදුසු කාලයේ මං සිල් පුරමින් වාසය කලා. ස්වාමීනී මං උපසම්පදාවට කැමැතියි. නමුත් තථාගතයන් වහන්සේව බැහැදැකීම පිණිස මේ දිගු ගමන වඩින්න ස්වාමීනී මට පුළුවන්කමක් නෑ, ධූර්ථයො මාව පැහැරගන්න රැකගෙන ඉන්නවා. එතකොට භාග්‍යවතුන් වහන්සේ ඒ දූතයාගේ පණිවිඩය ලැබුනට පස්සෙ දූතයා අතේ පණිවිඩයක් එව්වා, අඩ්ඪකාසී නුඹ උපසම්පදා. ඒකට කියනවා පින්වතුනි දූත උපසම්පදා. මේ බුද්ධ ශාසනයේ දූත උපසම්පදාව ලැබුවේ අඩ්ඪකාසී කියන අර්හත් තෙරණිය. අඩ්ඪකාසී තරණිය තමයි මේ බුද්ධ ශාසනයේ දූත උපසම්පදාව ලැබූ කෙනා. ඒ දූත උපසම්පදාව ලබන්න හේතු වුනේ ඔය පසුබිම.

ඉතින් භාග්‍යවතුන් වහන්සේගේ වචනයෙන් ඈ දූත උපසම්පදාව ලැබුවා. ඉතින් නොබෝ කලකින්ම අර්හත්වයට පත්වෙච්ච අඩ්ඪකාසී අර්හත් උත්තමාවිය මෙන්න මේ විදියට තමන්ගේ ථෙර ගාථාව වදාරන්නෙ. කාසි ජනපදයට ලැබෙන බදු ආදායම වගේම ආදායමක් ඉස්සර මට ලැබුනා. ඒ පුංචි නගරයේ හිටපු මිනිස්සු ඒ ආදායමේ අගය මැනලා ඒකෙන් භාගයක වටිනාකම තක්සේරු කරලා මාව අභිචාරිකා තනතුරේ තිබ්බා. අභිචාරිකා කියලා කියන්නෙ වෛශ්‍යා, වෙසඟන, නගරශෝභනී තනතුර. එහෙත් මං දැන් අවබෝධයෙන්මයි රූපය ගැන කළකිරිලා ඉන්නෙ. අභිචාරිකා තනතුරේ ඉන්නකොට, වෛශ්‍යා තනතුරේ ඉන්නකොට ඈ මේ රූපය සරස සරසා හිටියා. ඒ රූපය තව කෙනෙක්ව ආකර්ශණය කරගැනීම පිණිස යොදවාගෙන හිටියා. ඈ කොණ්ඩා මෝස්තරයක් දාන්නෙත් පුරුෂයෙකුගේ හිත ඇදගන්නවා කියන අදහසින්. ඇය නොයෙක් නොයෙක් ආකාරයෙන් කය සරසා ගන්නෙත් පුරුෂයන්ගේ හිත ඇදගන්නා ආකාරයෙන්. නිතර කණ්ණාඩිය ගාවට ගිහිල්ලා මේ ශරීරයේ රූසිරු බල බල හිටපු තැනැත්තියක්. එහෙම හිටපු කෙනා, දැන් අවබෝධයෙන්ම රූපය ගැන මම කළකිරිලා ඉන්නෙ. අවබෝධයෙන්ම රූපය කළකිරුණා කියලා කියන්නෙ රූපයේ යථාර්තය අවබෝධ කලා. රූපයේ යථාර්තය නම් කුමක්ද? භාග්‍යවතුන් වහන්සේ දේශනා කලා රූප තීතිකො භික්ඛවෙ තස්මා රූපං, මහණෙනි මේ රූපය කියලා කියන්නෙ සිදී බිදී යන එකක්, වැනසෙන එකක්. ඒ හින්දා තමයි මේකට රූප කියන්නෙ. සීතේන පිරුප්පති, සීතලෙනුත් මේ රූපය සිදී බිදී වැනසී යනවා. මේක මේ විදියට තිබුනාට සීත අධික වෙච්චි ගමන් රූපය වැනසෙන්න පුලුවන්, රූපයේ ස්වභාවය වෙනස් වෙන්න පුලුවන්. ඒ නිසා මේකට කියනවා රූප සිදී බිදී යන නිසා. උන්හේනපිරුප්පති, උණුසුමෙනුත් වෙනස් වෙලා යනවා. උණුසුමෙනුත් සිදී බිදී යනවා. දංස මකස වාතාතත්ත සිහිංසප සම්පස්සේන පිරුප්පති, මැසි මදුරු ආදී උවදුරු වලිනුත් මේක වැනසෙනවා. දැන් මේ රූපය ගත්තහම ඩෙංගු මදුරුවා වගේ ඒ විස සහිත මදුරුවෙක් දෂ්ට කලත් මේ රූපය වැනසිලා යනවා. අපි මේ රූපය පරිහරණය කරනවා මුලාවෙන් මේක ලස්සනයි, මේක හැඩයි, කොණ්ඩෙ හැඩයි ආදී වශයෙන්. නමුත් වැනසෙන රූපයක්, නැසී යන රූපයක් කොච්චර සරස සරසා හිටියත් වැනසී යාම උරුම කරගත්ත රූපයක්. කොච්චර හැඩකරන්න මහන්සි ගත්තත් ස්ථිරව හැඩ තියන්න බැරි රූපයක්. හැම නිමේෂයක් පාසාම වෙනස් වීම උරුම කරගෙන තියෙන රූපයක්. හැම මොහොතකම පින්වතුනි අපි සත්‍යය කරා ඇදෙනවානෙ මේ ජීවිතේ ලෝකෙ

තියෙන ධර්මතා දැකලා. ලෝක ධර්මතාවය තමයි මේ ශරීර කූඩුව උරුම කරගත්තට පස්සෙ ශරීර කූඩුවේ හැටි භාග්‍යවතුන් වහන්සේ වදාළා, පරිජින්න නිඩං රූපං, මේ ලැබුනු රූපය වනාහි ජීර්ණය වී යන දිරා යන එකකි. රෝග නිද්දං පබං ගුරං. මේ රූපය වනාහි ලෙඩරෝග නැමැති බිජුවට දැමීමට සුදුසු කැදැල්ල බඳුය. බිජ්ජතිපූතිසංතේ හෝ මරණං තං හි ජීවිතං. මේ රූපය යම් කලෙක මරණයෙන් මිදී යන්නේය, මරණය තෙක් පමණි මේ ජීවිතේ. මේ ජීවිත යාත්‍රාවේ අපිට නොතේරීම අපි මරණය කරා ඇදී ඇදී යනවා. ඒ මරණය කරා ඇදෙන ජීවිතේ අපි රූපයක් උරුම කරගෙන ඒ උරුම කරගත්ත රූපයට යම් දුක් ගැහැට එනවාද එව්වා නිසා අපි විඳවනවා. නාකි වෙද්දි අපි විඳවනවා. නානප්‍රකාර ලෙඩ, දැන් ලෙඩ කියන ඒවා ගත්තයින් පස්සෙ පින්වතුනි දැන් මේ ලෝකෙ ලෙඩරෝග, මේ වෙනකොට ලෙඩරෝග ජාති කොච්චර තියෙනවාද. ඇතැම් ලෙඩරෝග තියෙනවා ස්ථිරව බෙහෙතක් නම් නෑ. ඒ ලෙඩ සුව කරන්න විදියක් නෑ, වැළඳුනොත් ලෙඩේ උරුමයට අනුවම යන්න ඕන. එහෙම ලෙඩ. භාග්‍යවතුන් වහන්සේ වදාළා, මහණෙනි මේ රූපය ගැන හොඳ නුවණින් සළකලා බලනකොට ඒ නුවණින් සළකලා බලනකෙනාට ආදීනවම ප්‍රකට වෙන්න පටන් ගන්නවා. එයාට හිත පිහිටනවා ආදීනව සංඥාවෙ. ආදීනව සංඥා කියලා කියන්නෙ ආදීනව හඳුනාගැනීම. මිනිස්සු සාමාන්‍යයෙන් ආදීනව නෙවෙයි පින්වතුනි හඳුනාගන්නෙ ආශ්වාදය. නුවණින් සළකනකොට ආදීනව හඳුනාගන්න ලැබෙනවා, බහුදුක්ඛො කො අච්චං කායො බහු ආදීනවො, මේ කය කියලා කියන්නෙ දුක් ගොඩක් තියෙන ආදීනව ගොඩක් තියෙන එකක් නොවැ. ඉති ඉමස්මිං කායෙ විවිධාබාධා උප්පජ්ජන්ති. මේ ශරීරයේ නොයෙක් ආකාරයේ ආබාධ උපදිනවා නොවැ. මොනාවද ඒ ආබාධ? චක්ඛු රෝගෝ - ඇස් රෝග, සෝත රෝගෝ - කනේ රෝග, ඊළඟට නාසයේ රෝග, ජිව්හා රෝගෝ - දිවේ රෝග, කාය රෝගෝ - මේ ශරීරයේ රෝග, සාසො සාසො පිනාසො - පීනස හටගන්නවා, කැස්ස හටගන්නවා, සෙම හටගන්නවා. ඩහො ජරො කුච්ඡි රෝගෝ - මේ උණ රෝග හටගන්නවා, කුෂ්ට රෝග හටගන්නවා. කුච්ඡා පච්ඡන්දිකා - සිහි මූර්ජා වෙනවා, ඊළඟට ලේ අතීසාර රෝග හටගන්නවා, පිළිකා රෝග හටගන්නවා. ගඩු හටගන්නවා. මේ ඔක්කොම ටික කොහෙද, මේ ශරීර කූඩුවේ. අපි ලස්සනයි හැඩයි, අරයාගේ ඇස් වලට වඩා මගේ ඇස් නම් හරි හැඩයි, මගේ ඇස් පිහිටලා තියෙන විදිය ලස්සනයි කියලා අපි මෙහෙම රූපය ගැන හිතනවා. හැබැයි මේ ඇස් කියලා කියන්නෙ ලෙඩරෝග උරුම කරගත්ත එකක්. ඒ ඇහැ ලෙඩරෝග උරුම කරගන්නකොට අපිට නවත්වන්න

බෑ, මගේ ඇඟට එහෙම වෙන්න එපා කියලා. ඇඟ ලෙඩ වෙන්න පටන් ගන්නකොට ලෙඩ වෙනවා. මේ ශරීරය ලෙඩ වෙන්න පටන් ගන්නකොට ලෙඩ වෙනවා, මේක රෝග කියන බිජුවටය දාන්න තියෙන කැදැල්ල වගේ එකක්. මේ ඔක්කොම කියලා දෙන්නෙ, මේ සත්‍යය කියලා දෙන්නෙ බුදුරජාණන් වහන්සේගේ ධර්මය තුළ. ඉතින් අඩ්ඪකාසී තෙරණිය කියනවා මම දැන් අවබෝධයෙන්ම රූපය ගැන කළකිරිලා ඉන්නවා. අවබෝධයෙන්ම රූපය ගැන කළකිරුණා කියන එකයි, මම දැන් කළකිරිලා ඉන්නෙ කියන්නෙයි ඒක වෙනම අර්ථ දෙකක්. අවබෝධයෙන්ම රූපය ගැන කළකිරෙනවා කියන්නෙ සතුට උපදින සැප උපදින එකක්. සාමාන්‍ය කළකිරීම කියලා කියන්නෙ එල්ලා ගත්ත මුහුණින් මේ කොන්වෙලා පැත්තකට වෙලා ඉන්න එකනෙ. අපි නිකන් අහන්නෙ මොකෝ මේ කළකිරිලා කියලා. එහෙම එකක් නෙවෙයි මේ. දැන් මේ අර්හත් උත්තමාවියො කියලා කියන්නෙ මේ ජීවිතේ අවබෝධ කලාට පස්සෙ මූණු එල්ලගෙන පැත්තකට වෙලා හිටපු අය නෙවෙයි. ඇත්තටම සැප සේ හිටියෙ. මේ ධර්මය අවබෝධ කරපු අර්හත් උත්තමාවියො. ස්ත්‍රීන් අතර සැපසේම හිටපු ස්ත්‍රීන්. සියලු කෙලෙස් නසලා කෙලෙස් ගැට සංසිඳවාගෙන සැපයට පත්වුනා. ඈ කියනවා මං දැන් මේ ජරාජීර්ණ වෙලා යන රූපය ගැන අවබෝධයෙන්ම කළකිරිලා ඉන්නවා. එයාගේ අවබෝධය මොකක්ද, මේකට සිද්ධ වෙන ඇත්ත. මේක වයසට යන රූපයක්, වයසට යන එක නවත්වන්න බෑ කියලා අවබෝධයෙන්ම වැටහීමක් ධර්මය තුළින්ම ඈට හටගත්තා. මේක ලෙඩවෙලා යන එකක්, ලෙඩ වෙන එකෙන් මට නවත්තගන්න බෑ, මාත් ඒ ලෙඩවීම උරුම කරගත්ත කෙනෙක් කියලා ඈට අවබෝධයෙන්ම කළකිරීමක් හටගත්තා. මේ කුණු කය මරණයෙන් කෙහොමත් අත්හරින්න වෙනවා කියලා ඈට තමන් ගැනම වැටහීමක් ඇතිවුනා. ඒකට කියනවා අවබෝධයෙන්ම කළකිරෙනවා. ඊටපස්සෙ මේ ශරීරයේ ඊළඟ යථාර්තය මේක කැඩී බිඳී යනවා. බලන්න පින්වතුනි, හදිසි අනතුරු ආදී ඒ වගේ දේවල් සිද්ධ වුනාට පස්සෙ කැඩිලා බිඳිලා යනවානෙ මේ ශරීර. දැන් අපිට ඇතැම් අවස්ථාවල මුණගැහිලා තියෙනවා තරුණ දූලා, තරුණ වයසේ දූලා හදිසි අනතුරු වලට පත්වෙලා සමහර විට කකුළක් අහිමි වෙලා. ඒ කකුල අහිමි වුනාට පස්සෙ වෛද්‍යවරු සුදුසු විදියට ප්‍රතිකාර කරලා ඒ තුවාල හොඳ කරලා නමුත් දැන් කෘතිම කකුලක් දාන්න වෙලා. අර සාමාන්‍ය පිහිටි කකුල දැන් නැහැ. ඉතින් තරුණ වයසේ දූලා නිසා හරී දුකට පත්වෙනවා. අනේ තරුණ වයසේදීම මගේ කකුල නැතිව ගියා. ඇයට ඒක විශාල ලැජ්ජාවක්. නමුත් මොනවා කරන්නද, මේ ශරීරයේ උරුම

වෙලා තියෙන හැටි. කැඩී බිඳී යන ස්වභාවයෙන් යුක්ත මේක කැඩී බිඳී නොයාවා කියන කාරණය කෙසේ ලබන්නද. වැනසෙන දේ වැනසී යනවා. ඒක තමයි අවබෝධය. අවබෝධයෙන්ම කළකිරුණාම ඒක සැප උපද්දන දෙයක්. ගෙවී යන දේවල් කොහොමත් ගෙවී යනවා. ගෙවී යන්නේ ආයුෂය. ආයුෂය ගෙවී යනකොට හොඳට පේන ඇස් නොපෙනී යනවා. ඇහෙන කන් නොඇසී යනවා. මේ ශරීරයේ තියෙන ප්‍රභාවල් නැති වී යනවා. ආයුෂ ගෙවීමත් එක්ක සිද්ධ වෙන ඒවා. මේ ශරීරයේ තියෙන හැඩ නැතිව යනවා, ආයුෂය ගෙවී යාමත් එක්ක. ඉතින් මෙහෙම මනාව දැකලා මං දැන් රූපය ගැන කළකිරිලයි ඉන්නෙ. ඒ නිසාම විරාගයට පත්වෙලා ඉන්නෙ. අවබෝධයෙන්ම කළකිරීම හේතු කරගෙන මේ විරාව හේතු කරගෙන හටගන්නවා විරාගය. විරාගය කියලා කියන්නෙ මොකක්ද, නොඇල්ම. නොඇලෙන්නේ කොහේටද, නොඇලෙන්නේ රූප, වේදනා, සංඥා, සංස්කාර, විඤ්ඤාණ කියන මේ පංචුපාදානස්කන්ධය කියන දුකට. දුක් සහිත සසරට. සංසාරයට මං නොඇලී ඉන්නවා. නැවත නැවත සැරිසරන ඉපිද ඉපිද යන සංසාරයට නම් මං ආයෙත් දුවන්නෙ නෑ. ආයෙ ආයෙමත් ඉපදි ඉපදී විඳව විඳවා යන මේ සංසාරෙට මං ආයෙ දුවන් නෑ කියනවා දැන් අඩ්ඩකාසී අර්හත් උත්තමාවිය අර්හත්වය පසක් කරනකොට ඇය මේ ථෙරී ගාථාවේ කියනවා මං ත්‍රිවිද්‍යාව ලබාගත්තා කියලා. ත්‍රිවිද්‍යාව කියලා කියන්නෙ පුබ්බෙනිවාස ඤාණය - පෙර විසූ කඳ පිළිවෙල දකිනා නුවණ, චුතූපපාත ඤාණය - සත්වයින් චුත වෙන උපදින දකිනා නුවණ, ආසවක්ඛය ඤාණය - සියලු කෙලෙස් නැසුවා කියලා දකින නුවණනෙ. එතකොට පෙර විසූ කඳ පිළිවෙල දකිනකොට ඇයට පේනවා මේ ජීවිතයේ තමන්ටම කියලා ආදර ස්වාමිපුරුෂයෙක් එක්ක දරු පැටවු ටිකක් හදාගෙන එහෙම ජීවිතයක් ගත කරන ආසාවක් ස්ත්‍රියකට තියෙනවානෙ. ඇය ඒ ආශාවෙන් යුක්තව කොච්චර වේදනාවක් උසුලාගෙන ඉන්න ඇත්ද වෙසඟන විදියට. හැමෝම අඩ්ඪකාසී ගැන කියද්දි අඩ්ඪකාසී වෙසඟන, අඩ්ඪකාසී අභිචාරිකාව, එහෙම කියනකොට ඇට කොච්චර දුකක් තියෙන්න ඇත්ද. සාමාන්‍ය කුලවත් ස්ත්‍රීන් මැද ඇය වෙසඟනක්. වංශවත් ස්ත්‍රීන් මැද ඇය වෙසඟනක්. ඇය මේ විදියට ගොඩාක් දුකට පත්වුනා. එසේ දුක සේ ඇය වාසය කලේ මොකක් නිසාද කියලා ඇය දකින්න ඇති පුබ්බේනිවාස ඤාණයෙන් බලනකොට. ඈ පෙර විසූකඳපිළිවෙල දැක්කා. ඒ නිසා ඇය කියනවා මම දැන් ත්‍රිවිද්‍යාවම ලබාගත්තා, ආයෙ ආයෙමත් මේ දුක් සහිත සංසාරයට, ඉපිද ඉපිද යන සංසාරයට මම එන්නෙ නෑ, මම බුද්ධ ශාසනය සම්පූර්ණ කරගත්තා. බුද්ධ ශාසනය සම්පූර්ණ කරගත්තා කියලා

කියන්නෙ අමානිවනේ සැනසුනා, අඩ්ඪකාසී අර්හත් උත්තමාවිය. බලන්න පින්වතුනි අද ථෙරී ගාථා දෙකක්, තෙරණිවරුන්ගේ චරිතාපදාන දෙකක් අපි ඉගෙන ගත්තා. මේ චරිතාපදාන දෙකේ තිබුනේ ස්ත්‍රී ජීවිතයක ශෝකාන්ත දෙකක් ගැන. විවාහ ජීවිතයට පත්වුනාට පස්සේ ගොඩාක් සිහින මැද විවාහ වෙලා ඒ විවාහ වෙච්චි පුරුෂයා නොසණ්ඩාලයෙක් වීම නිසා ඇතැම් ස්ත්‍රීන් විඳවනවා. තවත් ස්ත්‍රී ජීවිතයක විඳවිල්ලක් තියෙනවා, තමන් ආදරයක් සෙනෙහසක් පතනවා, පතන එක ලැබෙන් නෑ. ඉතින් මේවා තමයි සංසාර ගමනක යනකොට ස්ත්‍රී ජීවිත ලැබුවහම තියෙන ඒ ස්ත්‍රියටම උරුම වෙච්චි දුක් වල කොටසක්. සංසාර ගමනේ කොච්චර අපිත් ස්ත්‍රී වෙලා ඇත්ද. කොච්චර පුරුෂ වෙලා විඳවලා ඇත්ද. කොච්චර සත්තු වෙලා විඳවලා ඇත්ද. කොච්චර නිරසත්තු වෙලා විඳවලා ඇත්ද. කොච්චර පෙරේතයො වෙලා විදවලා ඇත්ද. ඒ විඳව විඳව ආපු ගමනේ බුද්ධ ශාසනය මුණ ගැහීමෙන් ඔක්කොම විඳවිලි, ඔක්කොම සංතාප, ඔක්කොම ගිනි නිවාගන්න පුලුවන්. ඒ නිසා පින්වතුනි ලැබුනු බුද්ධ ශාසනයේ වටිනාකම ගැන අපි හොඳින් තේරුම් ගන්න ඕන. ඒ හොඳින් තේරුම් අරගෙන ඒ සුමංගල මාතා කියන අර්හත් උත්තමාවියත් අඩ්ඪකාසී නම් වූ අර්හත් උත්තමාවියත් අනෙකුත් රහත් තෙරණින් වහන්සේලාත්, සියලු රහතන් වහන්සේලාත් නිවී සැනසුනු අමා නිවනේ සැනසෙන්න අප හැමදෙනාටත් වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!!

අප විසින් රැස් කලා වූ සියලු පින් සක්දෙවිඳුන් සතර වරම් දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවියෝත් තිස් අටක් වූ සෙන්පති දෙවියෝත් සතුටින් අනුමෝදන් වෙත්වා. අපගේ ඉෂ්ටකාමී හිතකාමී දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. ශ්‍රීමත් සුමන සමන් දෙව්රජ ප්‍රධාන පොළොව වාසී සියලුදෙවියෝද පින් අනුමෝදන්ව, පින් අනුමෝදන් වන දෙවිවරු දිව්‍ය සැපය දිව්‍ය ආශ්චර්‍යයෙන් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ රැකවරණය, ආශිර්වාදය අප හැමදෙනාටම නොඅඩුවම සළසත්වා. දෙවියෝද සසර දුකින් අතමිදේවා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. නිදුක් නිරෝගී සුව සැලසේවා දීර්ඝායුෂ සැලසේවා. මේ ගෞතම ශාසනය තුළ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්නට වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලුම පුණ්‍ය ධර්මයන් අද ධර්ම දානය සිද්ධ කරන ඒ පින්වතුන්ලාගේ නමින් මීට වසර කිහිපයකට පෙර මියපරලොව යන්න යෙදුනු පින්වත් පී.ජී. පුංචිඅප්පුහාමී පියාණන්ට, එන්. පුංචිරාල පියාණන්ට,

කේ.ආර්. ඩිංගිරිමැණිකේ මැණියන්ට, ඩී.එම්. බිසෝමැණිකේ මැණියන්ට, එන්.එල්. ගුණපාල ලියනගේ මහතාට සහ පී.ජී. ප්‍රේමදාස මහතාට මේ සියලු පින්පෙත් අනුමෝදන් වෙත්වා. අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. මීට වර්ෂ කිහිපයකට පෙර මියපරලොව ගිය පින්වත් එන්.ඒ. සුගතසෝම මහතාට, ඒ පවුලේ දෙමව්පියන්ට ඩබ්.බී. ලියනරත්න මහතාට, ඩබ්.බී. බන්දුල විජේසේකර පුතණුවන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. නමින් මියගියා වූ පින්වත් එස්.ජී. මුදියන්සේ මහතාට සහ ඩබ්.එම්. උක්කුමැණිකේ මැණියන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. නමින් මියගියා වූ සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන්ව අනන්ත සසර පුරාවට මියගිය ඒ සියලු ඥාතීන් මේ පුණ්‍යානුමෝදනාවෙන් සැපයටම පත්වෙත්වා. අපගේ ඥාතීන් දුක් සහිත සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා, කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදනා සිදු කරන්න. රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයෝ 2021 ජූනි මාසෙ 4 වෙනි දින උපන්දිනය සැමරූ පින්වත් එම්. අනුලාවතී මැණිකේ මැණියන්ට අනුමෝදන් වෙලා මැණියන් නිදුක් වෙත්වා, නිරෝග වෙත්වා, සුවපත් වෙත්වා, දීර්ඝායුෂ ලබත්වා, මේ ගෞතම ශාසනයේ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම පින්වතුන්ලා බලාපොරොත්තු වෙන අයුරින් කොරෝනා වෛරසය හේතුවෙන් රෝගාතුර වී සිටින සෑම සියලු දෙනා හට ඉතා ඉක්මණින් නිදුක් නිරෝගී සුව ශාන්තිය සැලසේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. අද ධර්ම දානය සිදු කරන්නෙ කුමාරිගම, උහන, අම්පාර යන ලිපිනයේ පදිංචි අංක 20/69/1 නිවසේ පදිංචි පින්වත් පී.ජී. පොඩිමැණිකේ මහත්මිය, අංක 20/69 නිවසේ පදිංචි පින්වත් අනුලාවතී මැණිකේ මහත්මිය, අංක 20/75 නිවසේ පදිංචි පින්වත් විමලා හතුරුසිංහ මහත්මිය, අංක 20/47/1 නිවසේ පදිංචි පින්වත් ජේ.එම්. පොඩිමැණිකේ මහත්මිය සහ අංක 20/49/3 නිවසේ පදිංචි පින්වත් එස්.ජී. චන්ද්‍රාවතී මහත්මිය යන මේ පින්වතුන්ලා, ඉතින් ඒ පින්වතුන්ලා හැමදෙනාටම පවුල්වල සෑම සියලු දෙනාට පින් අනුමෝදන් වෙත්වා. පින්වතුන්ලා කරන කියන රැකී රක්ෂා ආදිය දරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදිය සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා. සුවසේ පින්පුරාගෙන, සුවසේ ධර්මයේ හැසිරෙන්න ලැබෙත්වා. නිරතුරුව ජීවිතයට කල්‍යාණමිත්‍ර ආශ්‍රය ලැබෙත්වා. ධර්මදානය සිදු කරපු පින්වතුන් හැමදෙනාට, ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ට, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට,

සුපින්වත් ඔබට ගෞතම ශාසනයේම ධර්මාවබෝධ කරන්න වාසනාව ලැබෙන්වා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=a2eBLS0r3eg

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදු සාදු සාදු!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද දවසේ ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු උතුම් සද්ධර්ම දේශනාවේ දායකත්වයන් දරනු ලබන්නේ 2020 ජූනි මාසේ හතර වෙනි දින මියපරලොව යන්න යෙදුනු මීට වර්ෂයකට ප්‍රථම මියගිය සෝමා විජේරත්න මැණියන්ට පින් අනුමෝදනා පිණිස, පින්වත් ඩබ්.ඩී. සරත් විජේරත්න මහතා, විජිතා කරුණානායක මහත්මිය ඇතුළු ඒ පවුලේ පින්වතුන්ලා විසිනුයි අද ධර්ම දානමය පින්කම සිද්ධ කරන්නෙ. තුන්ලොව අතැඹුලක් සේ අවබෝධ කොට වදාළ ඒ අපගේ මහා කාරුණික ශාස්තෘන් වහන්සේ භාග්‍යවත් අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ අපේ ජීවිතයට බොහොම වටිනා අවවාදයක් කලා ධම්ම පදයකින්. බුදුරජාණන් වහන්සේ වදාලා අත්තානංචෙ පියං ජඤ්ඤා රක්ඛෙය්‍ය නං සුරක්ඛිතං, ඇත්තෙන්ම තමන්ට තමාව ප්‍රිය නම් තමාව රැකගන්න ඕන කියලා හිතනවා නම් තින්නමඤ්ඤතරං යාමං පටිජග්ගෙය්‍ය පණ්ඩිතො, මේ ජීවිතයේ බාල කාලෙ හරි තරුණ වයසේ හරි මහළු වයසේ හරි මේ ජීවිතේ යාම තුනෙන් එකක තින්න මඤ්ඤතරං යාමං, මේ ජීවිතයේ යෙදෙන යාම තුනෙන් එකකවත්

අඩුම ගානෙ යහපතෙහි හැසිරෙන්න ඕන, ධර්මයේ හැසිරෙන්න ඕන. අපි හැමෝම පින්වතුනි අපේ ජීවිතයට ආදරය කරනවා, අපි අපේ ජීවිතයට ආදරෙයි. අපිව රැකගන්න ඕන කියලා හිතනවා. හැබැයි අපිව රැකගැනීම පිණිස අපි අපිට ආදරෙන් ධර්මයේ හැසිරෙනවාද කියන එක ප්‍රශ්නයක්. ධර්මයේ හැසිරෙන්න කැපවෙනවාද කියන එක ප්‍රශ්නයක්. ඒ නිසා මේ භාග්‍යවතුන් වහන්සේගේ අවවාදය අහන අපි හරි මහන්සි ගන්න ඕන අපේ ජීවිතයේ පින රැස් කිරීම පිණිස ධර්මයේ හැසිරීම පිණිස සිත කය වචනයෙන් පින් කරගන්නවා කියන එක පින්වතුනේ, සිත කය වචනයෙන් පින් රැස් කරගන්නවා කියන එකේ යහපත තේරෙන්න ඒ පිනෙන් සැපවත් වෙච්ච් ජීවිත වල චරිතාපදාන අහන්න ඕන. අපි බොහෝ කාලයක් තිස්සෙ අපි ඔබට රහතන් වහන්සේලාගේ චරිතාපදාන කියාදුන්නා. දැන් මේ වැඩසටහනින් අපි ඉගෙන ගන්නෙ රහත් තෙරණිවරුන්ගේ චරිතාපදාන. ඒ රහත් තෙරණිවරු බිහිවුනෙත් සංසාරයේ රැස් කරගත්ත පින් බලයෙන්. සංසාරයේ රැස් කරගත්ත පින් වලින්, ඒ පින පූර්ණත්වයට පත්වෙලා නිකෙලෙස් ජීවිත උපදවාගත්ත අර්හත් උත්තමාවියො තුන් නමක් ගැන අද දේශනාවේදී සුපින්වතුන්ලාට අහන්න ලැබෙනවා. පළවෙනි අර්හත් උත්තමාවිය තමයි චිත්තා තෙරණිය. චිත්තා අර්හත් උත්තමාවිය කියලා කියන්නෙ පින්වතුනි මීට අනූ හතර කල්පයකට පෙර, බුද්ධාන්තරයක් යෙදුනා. බුද්ධාන්තරය කියලා කියන්නෙ මොන කාලයක් ද බුද්ධාන්තරය කියන්නෙ? සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් පහළ වෙලා ඒ බුදුරජාණන් වහන්සේගේ ශාසනය අතුරුදහන් වෙලා යළි බුද්ධ ශාසනයක් පහළ වීම අතර කාලය. ඒකට කියනවා බුද්ධාන්තරය. බුදු කෙනෙක් පහළ වී තවත් බුදු කෙනෙක් පහළ වීම දක්වා ඇති කාලය. බුද්ධාන්තරවල සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් පහළ වීමට ආසන්න කාලයේ පසේබුදුවරුන්ගේ යුග හටගන්නවා. පසේ බුදු බව පිණිස පින් පුරලා තියෙන මහා පින්වන්තයො ඒ කාලෙ ඉපදිලා වෙන් වෙන් වශයෙන් ධර්මය අවබෝධ කරගෙන මේ සංසාර දුකින් නිදහස් වෙනවා, ඒ තමයි පසේබුදු. ඉතින් පසේබුදුවරුන්ගේ යුගයක් යෙදුනා ඊට අනූහතර කල්පයකට පෙර. ඒ කාලෙ තිබුනා චන්ද්‍රභාගා කියලා නදියක්. ඔය නදියේ හිටියා කිඳුරියක්. මේ කිඳුරී චන්ද්‍රභාගා නදියේ ඒ මේ අත පිහිනමින් ඉද්දි දවසක් දකිනවා පසේ බුදුරජාණන් වහන්සේ වැඩම කරනවා. පසේ බුදුරජාණන් වහන්සේ වැඩම කරනවා දකිනකොට ඇට තිබුනා පිනක් රැස් කරගන්න අවකාශය හිතින්. ඒ පින ඇය රැස් කලේ හිතින්. ඉතින් කොහොමද උත්තමයෙක් දකිද්දි පින්

පුරන්නෙ. සිත පහදවාගැනීමෙන් පින් පිරෙයි. උතුම් මුණිවරයෙක් දැක උත්තමයෙක් දැක, ගුණවන්තයෙක් දැක, ශ්‍රමණයෙක් දැක සංඝයා දැක හිත පහදින්නේද ඒ හිතින් පින් පිරේ. හිත අපහදවා ගන්නා කෙනාට ඒ හිත හේතු කරගෙන පව් පිරේ. එතකොට බලන්න ඈට තිබුනා පිනක්, මේ කිඳුරීට තිබ්බා පිනක් හිත පහදවාගැනීමේ පින. ඉතින් පසේ බුදුරජාණන් වහන්සේ නමක් ගැන හිත පහදවගත්තෙ. ඈ එයින්ම පින් පුරවගත්තා. ඒ පිරූ පින ඇයව අරගෙන ගියා මරණින් මත්තෙ දෙවියන් අතරට. මීට අනූහතර කල්පයකට පෙර පසේ බුදුවරයෙක් කෙරෙහි හිත පහදවාගත්තු ඈ දෙවියන් අතරේ උපන්නා. ඒ දෙවියන් අතරේ උපන්නාට පස්සෙ දෙව්ලොවදී ඇයට ලැබුනා සත්පුරුෂ ආශ්‍රය. සත්පුරුෂයෙක් ඇසුරු කිරීමේ හැකියාව දෙව්ලොවදී ඇයට ලැබෙනවා. ඒ කිව්වෙ පින්වතුනේ සාමාන්‍යයෙන් සත්පුරුෂයා කියන කෙනා ඇසුරු කරන්න ලැබුනාම, ඒක අපි හරියට තෝරබේරගන්න ඕන එකක්. නැත්නම් අසත්පුරුෂයෝ මේ අහිංසක පින්වතුන්ලාව නොමඟ යවනවා මේ සුගති උපත ගැන බොරු බේගල් ඇදබාලා. සුගතියේ උපත කියන එක ශාස්තෘන් වහන්සේ වර්ණනා කරපු එකක්. දෙව්ලොව උපදිනවා කියන එක ශාස්තෘන් වහන්සේ වර්ණනා කරපු එකක්. බුදුරජාණන් වහන්සේ වර්ණනා කරපු දේ, බුද්ධ භාෂිතය කෙරෙහි ශ්‍රද්ධා භක්තිය නැති ඇතැම් අසත්පුරුෂයො ගරහලා කතා කරනවා. උඩඟු කමින් බුදුරජාණන් වහන්සේගේ ධර්මයටත් වඩා ඉහළින් තම තමන්ගේ මති මතාන්තර තියාගෙන කතා කරනවා. එතකොට ඒක අහගෙන ඉන්න ධර්මය ගැන වැඩි වැටහීමක් නැති කෙනෙක් ඒකට අහුවෙලා යන්න පුලුවන්. ඒ නිසා හොඳට මේක තේරුම් ගන්න ඕන, සුගති සම්පත් ලැබූ කෙනාට සත්පුරුෂ දෙවිවරු ඇසුරු කරන්න ලැබෙනකොට සත්පුරුෂයෙක් ආශ්‍රය කරන්න ලැබුනාට පස්සෙ ලැබෙන භාග්‍යය ඔහුට ලැබෙනවා. දැන් ඔබ හිතන්න අපිට අපේ මව්පියො, අපේ දෙමව්පියො අපි චූටි කාලෙ අපිට ආදරේ කරන දෙමව්පියො අපිට වැරැද්දක් කරන්න දෙන් නෑ. අපිව රකිනවා. එතකොට මව්පියන් විසින් දරුවන්ව රකිනවා නේද. මව්පියන්ගේ ඇසුර නැති ළමයි ඇතැම් ළමයි හැදෙනවා පාරවල් වල අම්මෙක් තාත්තෙක් නෑ. ඒ දරුවා ඔහේ අයාලේ යන්නැද්ද. අයාලේ යනවා. හැබැයි දෙමව්පියන්ගේ ඇසුරේ ඉන්න දරුවා දෙමව්පියො විසින් රකිනවා. අන්න ඒ වගේ තේරුම් ගන්න. සත්පුරුෂයාගේ ඇසුරට වැටුනට පස්සෙ සත්පුරුෂයා පරදින්න දෙන්නෑ. සත්පුරුෂයාගේ ආශ්‍රයේ ලාභය එයයි. නිදීනංව පවත්තාරං යං පස්සෙ වජ්ජදස්සනං, නිධානයක් පෙන්වා දෙන්නා සේ සත්පුරුෂයා වැරදි අඩුපාඩු

ජීවිතයේ වරදින තැන් අඩුපාඩු දොස් පෙන්වා දෙන්නේය. නිග්ගය්හවාදිං මේධාවිං තාදිසං පණ්ඩිතං භජෙ, ඒ වැරැද්දට නිග්‍රහ කර කර වැරැද්ද හදාගන්න අවවාද කරන සත්පුරුෂ පණ්ඩිතයෝම ඇසුරු කළ යුත්තේය. තාදිංස භජමානස්ස සෙය්‍යා හොති න පාපියො, එබඳු උත්තමයෝ ඇසුරු කරන්නාට දියුණුවක්ම සිද්ධ වන්නේය. කිසි කලෙක පිරිහීමක් නොවේ. ඒක මේ තෙරණියගේ චරිතාපදානයෙන් තේරෙනවා කිඳුරියක් වෙලා තිරිසන් යෝනියේ ඉපදිච්චි ඈ පසේ බුදු කෙනෙක් ගැන හිත පහදවාගෙන මනුස්ස ලෝකය ඉක්මවා දෙව්ලොව ගියා. දෙව්ලොවදී ලැබිච්ච සත්පුරුෂ ඇසුර නිසා ඈ කවදාවත් පිරිහුන් නෑ. අනූහතර කල්පයක් පුරාවට ඈ එනවා, සුගති උපතේම. දෙවියන් අතර උපදිනවා මිනිසුන් අතරේ උපදිනවා, එහෙම පැමිණියා. මේ බලන්න, මේවා අසනා කල්හි කෙනෙක් පිනට ගරහනවා නම් මේවත් අහගෙන. කොච්චර අධර්මයක්ද, පිනක මෙච්චර රැකවරණයක් තිබෙද්දි. පිනේ රැකවරණය මෙච්චර ප්‍රකටව පෙනෙද්දි. ඈ මෙසේ පින් පුරාගෙන පැමිණිලා මේ බුද්ධ කාලයේ රජගහනුවර උපන්නා චිත්තා කියන නමින්, චිත්තා තරුණිය. මේ චිත්තා කියන තරුණිය, සාමාන්‍යයෙන් අවුරුදු දහසය, දාහත, දහ අට වගේ වයස, තරුණ වයසට එනකොටම ඇට වාසනාව ලැබුනා බුදුබණ අහන්න යන්න. ඉතින් ඈ නිතර රජගහනුවර භාග්‍යවතුන් වහන්සේ වැඩ ඉන්නකොට බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහනවා. අනිකුත් භික්ෂු සංඝයා වහන්සේලා වැඩ ඉන්නකොට ඒ භික්ෂූන් වහන්සේලාගෙන් ධර්මය අහනවා. ධර්මය අහලා ඇගේ හිත බලවත්ව පහන් වුනා. ඒ බලවත්ව පහන් වුනාට තරුණ වයසේ ඉඳලාම බණ අහලත් ඇට පැවිද්දට හිත ආවෙ නම් ගොඩාක් වයෝවෘද්ධ වුනාට පස්සෙ. ඉතින් වයසට ගිහිල්ලා ඔත්පල වෙනකොට ඈ පැවිදි වෙන්න තීරණය කලා. ප්‍රජාපතී ගෞතමී උත්තමාවිය සමීපයේ ඈ පැවිදි වුනා. ධර්මයේ හැසිරෙන්න ඇට තිබුනා බලවත් වීර්යයක්. වීර්යය කියන එක ධර්මයේ හැසිරෙන්න ප්‍රධාන අංගයක්නෙ. ඒ වීර්යය චිත්ත අභ්‍යන්තරයේ තිබිය යුතු එකක්. අකුසල් දුරු කිරීම පිණිස පවතින වීර්යය. කුසල් දියුණු කරගැනීම පිණිස පවතින වීර්යය. ඒ වීර්යය කියන එකට උනන්දුව ආදිය කලවම් වෙනවා. දැන් කෙනෙකුට උනන්දුවක් නැත්නම් අකුසල් දුරු කරන්න කුසල් දියුණු කරගන්න හිතේ වීර්යයක් පිහිටන් නෑ. අභ්‍යන්තරයෙන් තමයි ඒ ශක්තිය එන්නෙ. හැබැයි මේ අභ්‍යන්තරයෙන් මේ ශක්තිය එනකොට මේ තෙරණිය ඉතා දුර්වලයිනෙ, කය දුර්වලයි. කයෙන් ඇය මහළු වෙලා. දිරාගියපු කයක් තියෙන්නෙ. හැබැයි හිතින්, හිතින් ඈ වීර්යවන්තියක්. ඈ දවසක්

අධිෂ්ටාන කරගත්තා මම මේ භාග්‍යවතුන් වහන්සේගේ ශාසනයේත් මහණ වෙලා මං කම්මැලිකමින් ඉන්නෑ. මං බුදුරජාණන් වහන්සේගේ අනුශාසනාව කරන්න ඕන. භාග්‍යවතුන් වහන්සේ වදාරපු විදියටම මම ධර්මයේ නොපමාව හැසිරෙන්න ඕන. ඈ එහෙම හිතුවා. එහෙම හිතලා ඈ නැගගත්තා කියනවා අමාරුවෙන් ගිජුකුළු පර්වතයට. මේ වෙනකොට පින්වතුනි ඈ හැරමිටියක් පාවිච්චි කරනවා. ඒ තරම්ම කය දුර්වල වෙලා. හැරමිටියේ වාරුවෙන් ඈ ගිජුකුළු පව්වට නැගගත්තා. එතකොට අපිට තේරෙනවා මේකෙන් ගිජ්ජකූට පර්වතයට වෙනම භික්ෂුණීන් වහන්සේලා වැඩ ඉන්න ආරාමෙකුත් තිබිලා තියෙනවා. ගිජ්ජකූටයට නැගලා ඈ පළඟක් බැඳගෙන වාඩිවුනා. ඒ පළඟ බැඳලා වාඩිවුනේ පින්වතුනි, යළි නැගිටින්න හිතාගෙන නෙවෙයි. යළි කෙලෙස් සහිතව නැගිටින්න හිතාගෙන නෙවෙයි ඇය වාඩිවුනේ. පාත්‍රය මුණින් නැව්වා කියනවා. පාත්‍රය මුණින් නැව්වෙ යළි අර්හත්වයට පත්වෙලා මේ ආසනයෙන් නැගිට්ටොත් විතරයි මං පිණ්ඩපාතෙ වඩින්නෙ. එහෙම හිතකින්. හරි ආශ්චර්‍යයියි මේ බුද්ධ ශාසනයක ස්ත්‍රීන් ඇති කරගෙන තියෙන වීර්යය. ඉතින් එහෙම වාඩිවුනා. වාඩිවෙලා නොබෝ දිනකින්ම සියලුම කෙලෙස් නැසූ රහත් තෙරණියක් බවට පත්වෙලා ඈ මෙන්න මේ ගාථා දේශනා කලා, බොහෝ දුරට මේ ගාථා පවසන්න ඇත්තෙ ඒ උත්තමාවිය පිරිනිවන් පාන්න සමීප කාලයේ. මං ගොඩාක් කෙට්ටු කෙනෙක්. ලෙඩ වෙලා දුර්වල වෙලා මං ඉන්නෙ. ඒත් මං හැරමිටියේ එල්ලීගෙන ගිජුකුළු පර්වතයට නැගගත්තා. පාත්‍රය මුණින් නවලා මං පැත්තකින් තිබ්බා. දෙපට සිවුරත් පැත්තකින් තිබ්බා. ගල් පර්වතය මත වාඩි වුනා. මේ ජීවිතය තුළ තිබ්බ අවිද්‍යාව නම් වූ කළුවර කෙලෙස් කඳ මං නැතිකරලා දැම්මා. අසිරිමත් ඒ වීර්යය නම්. මොකද අද සමහර වෙලාවට ගොඩාක් වයසට යන්න ඕන නෑ, චුට්ටක් ශරීරය දිරාගෙන එනකොට අපිට වාඩිවෙද්දි කොන්ද රිදෙනවා නම් අපි කියනවා අප්පේ අමාරුයි, කොන්ද අමාරුයි, කරගන්න බෑ කියලා. දණහිස් රිදෙනකොට අපි කියනවා දණහිස් අමාරුව මට මේ වාඩිවෙලා ඉන්න බෑ කියනවා. අපි එතකොට අපිට කයේ වේදනාව, කයේ තියෙන දුර්වලකම තදේට දැනෙනවා අපිට. අපිට ඇයි මේ තදේට දැනේනනෙ. හිතේ තියෙන දුර්වලකම නිසා. හිත බලවත් නම්, හිත ගොඩක් ශක්තිමත් නම් කයේ තියෙන දුර්වලතා පස්සට යනවා. ඉතින් මං මේ කාරණය කිව්වෙ මේ උත්තමාවියො ගැන හිත පහදවගන්න. ඉතින් අද යුගයේ ඉපදිච්චි අපි දුර්වලයි. අපිට පොඩ්ඩක් කොන්ද රිදුනා නම් ඇති, ඔක්කොම වැඩ නවත්වනවා අපි. බණක් අහන්න ගියත් අයියෝ කොන්ද රිදෙනවා කියලා එක

දිගට වාඩිවෙලා ඉන්න බෑ, ඉස්සර නම් බණ ඇහුවා. දැන් අමාරුයි කියනවා. එතකොට අපිට අර බණ ඇසීමට වඩා කයේ වේදනාවට හිත යනවා. අපිට අමාරුයි. ඊටපස්සෙ පොඩ්ඩක් බණ අහන්න පළඟ බැඳගෙන වාඩිවෙලා ඉද්දි ඔන්න දණහිස් රිදෙනවා නම් අපිට ලොකුවට දැනෙන්නෙ දණහිස්වල අමාරුව. අයියෝ මේක අමාරුයි මට, අපිට එතෙන්ට හිත යනවා. ඉතින් බලන්න මේ අර්හත් උත්තමාවියො ගැන අපිට එතකොට හිත පහදවගත්තහැකි නේද බලවත්ව, ඒ උතුම් තෙරණිවරු මේක කරගෙන තියෙන්නෙ මහා කැපකිරීමකින් බව අපිට හොඳට තේරෙනවා, ශරීරය දුර්වල වෙලා කෙට්ටු වෙලා හැරමිටියේ එල්ලීගෙන ඉද්දිත් පළඟක් බැඳගෙන වාඩිවෙලා අවිද්‍යා කෙලෙස් කඳ පලාදැමුවා, ආලෝකය උදා කරගත්තා. විද්‍යාව පහළ කරගත්තා. අර්හත් තෙරණියක් බවට පත්වුනා. ඒ චිත්තා කියන තෙරණියනෙ. ඊළඟ තෙරණින් වහන්සේ තමයි නෙත්තිකා, මේ නෙත්තිකා තෙරණියත් මීට අනූහතර කල්පයකට පෙර ඉඳන් තමයි ඇගේ චරිතාපදානය ගැන අටුවා කතාවේ සඳහන් වෙන්නෙ. ඈ ගොඩාක් පින් පුරන්න පටන් අරන් තියෙන්නෙ මීට අනූහතර කල්පයකට පෙර. මීට අනූහතර කල්පයකට පෙර අපි ඇහුවානෙ බුද්ධාන්තරයක් තිබ්බාය කියලා. ඉතින් මේ කතා කරන්නෙ බුද්ධාන්තරය ගැන නෙවෙයි, සම්මා සම්බුදුරජාණන් වහන්සේ පහළ වී සිටිය යුගය ගැන. ඒ යුගයේ පහළ වුනා මීට අනූහතර කල්පයකට පෙර සිද්ධාර්ථ අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ. සිද්ධාර්ථ බුදුරජාණන් වහන්සේ පහළ වී, ඒ බුදුරජාණන් වහන්සේ ශ්‍රී සද්ධර්මය දේශනා කොට ඒ බුදුරජුන් පිරිනිවන් පෑ කල්හි බුද්ධ ශාසනය අතුරුදහන් නොවී තියෙද්දි මැය උපන්නා ඒ යුගයේ. එතකොට භාග්‍යවතුන් වහන්සේ නැහැ. බුදුරජාණන් වහන්සේ පිරිනිවිලා. හැබැයි බුදුරජුන්ගේ ශාසනය තාම තියෙනවා. මේ යුගයේ වගේ. දැන් මේ ජීවත් වෙන මේ යුගයේත් අපේ ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ පිරිනිවිලා. හැබැයි ඒ බුදුරජාණන් වහන්සේගේ ශාසනය සත්පුරුෂ කල්‍යාණමිත්‍රයන් වහන්සේලා විසින් තාම ආරක්ෂා කරගෙන පවත්වමින් තියෙනවා. ඉතින් එහෙම කාලෙක තමයි මෑ උපන්නෙ. ඔය කාලෙ සිද්ධාර්ථ බුදුරජාණන් වහන්සේගේ ධාතූන් වහන්සේලා තැන්පත් කොට මහාසෑයක් ඉදිවී තිබුනා. ඒ සෑරජාණන් වහන්සේගේ යම් කටයුත්තකට රන් පූජා කරන්න අවස්ථාවක් ඒ කාලේ පින්වතුන්ලාට අවස්ථාව ලැබිලා තියෙනවා. දැන් අදත් ලැබෙන්නෙ. අදත් අපි සෑරජාණන් වහන්සේලා ඉදිකරනකොට අපේ ගුරුදේවයන් වහන්සේ මෑත යුගයේ අපිට බොහෝ පින් කරගන්න අවකාශ හදලා දුන්නානෙ සෑය ඉදි

කරලා. ශාස්තෘන් වහන්සේගේ ධාතූන් වහන්සේලා තැන්පත් කරලා, රහතන් වහන්සේලාගේ ධාතූන් වහන්සේලා තැන්පත් කරලා, අපිට සෑරජාණන් වහන්සේලා ඉදිකරගන්න අවකාශය අපේ ගුරුදේවයන් වහන්සේ හදලා දුන්නානෙ. එතකොට අපි දැනුවත් කරනවා පින්වතුන්ලාට සෑරජාණන් වහන්සේලාගේ කරඬු සකස් කරන්න, කොත් වහන්සේ සකස් කරන්න රන් පූජා කරන්න අවස්ථාව තියෙනවා කියලා. එතකොට සැදැහැවත් පින්වතුන්ලා රන් පූජා කරන්නෙ. අන්න ඒ විදියට සිද්ධාර්ථ බුදුරජාණන් වහන්සේගේ සෑයටත් රන් පූජා කිරීමේ අවස්ථාව ලැබුනා. රන් පූජා කිරීමේ අවස්ථාව ලැබෙනකොට රත්තරන් මාල වලට ලෝභ කරන කාන්තාවො අතර, රත්තරන් මාලය තමන්ගේ ගෙලේ දවටාගෙන ඒක බල බලා සතුටු වෙන කාන්තාවො අතර මේ කාන්තාවට මේ ස්ත්‍රියට හිතක් උපන්නානෙ, මං මගේ රන් මාලය මා ගාව තිබෙනා වටිනා රන් මාලය මං බුදුරජාණන් වහන්සේ උදෙසා සෑයට පූජා කරන්නෙමි කියලා පූජා කලා. ඉතින් මේක අහද්දින් සතුටු වෙන්න පුලුවන් රන් පූජා කරපු පින්වතුන්ලාට. අපේ අසපුවල සෑරජාණන් වහන්සේලා ඉදි කෙරෙනකොට භාග්‍යවතුන් වහන්සේගේ ධාතූන් වහන්සේලා තැන්පත් වෙලා පින්වතුන්ලාත් ඇති බොහෝමයක් පින්වතුන්ලා ඇති, මේ බණ අහන පින්වතුන්ලා බොහෝමයක් ඇති, තමන්ට ශක්ති පමණින් රන් පූජා කරපු, ධනය පූජා කරපු, ඊළඟට ශ්‍රමයෙන් දායක වෙච්චි නොයෙක් ආකාරයෙන් දායක වුනු පින්වතුන්ලා ඇති. සන්තෝෂ වෙන්න. එහෙම තමයි පින් පුරවා ගත යුත්තේ අපි ජීවිතේට, සත්පුරුෂයෝ පින් රැස් කරගන්න අවස්ථාව හදද්දි. හැම කාලෙම පින් කරගන්න අවස්ථාව හැදෙන් නෑනෙ. අපට පින් කරගන්න අවස්ථාව හැදෙනවා, ඔන්න දැන් ගුරුදේවයන් වහන්සේ මුල් වෙලා සෑයක් ඉදි කරන්න පටන් නොගත්තා නම්, අපිට ඒ අවස්ථාව ඒ දොර විවර වෙන් නෑනෙ. එහෙනම් සත්පුරුෂයෙක් මැදිහත් වෙලා පිනක් කරන්න අවකාශ හදන්න ඕන, එතකොටයි පින් කරගන්න අවස්ථාව හැදෙන්නෙ. එතකොටයි අර පින තියෙන කෙනාට ඒ පින පුරාගන්න පුළුවන්කම ලැබෙන්නෙ. ඉතින් ඒක ගැන එහෙම තේරුම් ගත යුතුයි. ඒක හරියට තේරුම් ගත්තා නම් මේ මිනිස්සු කවදාවත් ගුරු දේවයන් වහන්සේගේ මේ දහම් වැඩපිළිවෙලට ගරහලා නිකං පව් පුරව ගන්නෑ. නමුත් පේනවා මිනිස්සු ඇතැම්හු, සුළුතරයක්, බහුතරයක් නෙවෙයි, සුලුතරයක් ඉන්නවා හරි ඔලමොට්ටල විදියට කල්පනා කරන. ඒ ඒ ඇයන්ට මහා ගුණ කඳක් තුලත් ගුණය දැකගන්න තරම් භාග්‍යය නෑ. මහා ගුණ ගොඩක් අස්සෙ ගුණය බලාගන්න වාසනාවක් ඒ ප්‍රජාවට නෑ. ඉතින් ඒක

අවාසනාව. හැබැයි බලන්න මැය, මේ කවුද නෙත්තිකා තෙරණිය ඒ ජීවිතයේ සිද්ධාර්ථ බුද්ධ ශාසනයේ ඇය රන් මාලයක් පූජා කලා ශාස්තෘන් වහන්සේගේ සෑයට. ඔන්න ඒ රන් මාලය පිදූ පිනෙන් ඒ රන්මාලය ඇයව අරගෙන යනවා දෙව්ලොව. දැන් බලන්න පින්වතුනේ අපිට ලැබෙන වස්තුවකට අපිට ලැබෙන රන් මාලයකට පුලුවන්නේ අපිව දෙව්ලොව අරන් යන්න. දැන් මේ වර්තමානයේ ගත්තොත් එහෙම පිනට හිත පැහැදිච්ච නැති මනුස්සයාගේ ආභරණ ටික මනුස්සයාව අරගෙන යන්නෙ කොහෙද, පෙරේත ලෝකෙ අරන් යනවානෙ. එක්කො බහිරව ලෝකෙ අරන් යනවානෙ, එක්කො භූත ලෝකෙ අරන් යනවානෙ. මේවාට ලෝභ කරගෙන මැරිලා මෙන්න පෙරේතයො වෙලා. මෙන්න බහිරයො වෙලා, ලෝභකමේ මැරිලා රන් මාලය, රන් වළල්ල. එච්චර ඕන නෑ අපි ඇතැම් සිද්ධි අහලා තියෙනවා චීත්තෙ, චීත්ත රෙද්දට ලෝභ කරලා මියපරලොව ගිහිල්ලා චීත්ත රෙද්ද හින්දා මලයක්ෂණියො වෙච්චි ඒවා තියෙනවා. එතකොට මේ හත් අටසීයක චීත්ත රෙද්දක් අන්තිමට පෙරේත ලෝකෙකට අරන් ගියා. එහෙම සිද්ධි අතරේ මැය රන් මාලයක් පුදා ඒ රන් මාලය ඇයව අරගෙන ගියා තව්තිසාවට අරන් ගියා, දෙව්ලොව. දෙව්ලොව ඉපදිලා දෙව්වරු ඇසුරු කලා දහම් කතා කලා, තව බොහෝ පින් කරගත්තා. සෑය බෝධිය පුද පුදා පින් පුරලා ඔන්න ඒ අනූහතර කල්පයේම සුගතියේ ඉඳලා මේ බුද්ධ කාලයේ රජගහනුවර බොහෝම ධනවත් පවුලක උපදිනවා. නම නෙත්තිකා. මේ නෙත්තිකාව ධනවත් පවුලක උපන්න නිසා ඇය අර ධන බලයෙන් මත්වෙලා තරුණ කාලෙ බොහෝම ධනවත් විදියට සුඛෝපභොගී ජීවිතයක් ගත කලේ. වයෝවෘද්ධ වෙනකොට තමයි ඇයට බණ අහන්න ලැබුනේ. ඉතින් වයසට ගිහිල්ලා වුනත් ඇයට පුලුවන් වුනා බුද්ධ ශාසනයේ පැවිද්ද ලබන්න. බුද්ධ ශාසනයේ පැවිදි වෙන තැනටම ඇය ජීවිතේ තීරණය ගත්තා, පැවිදි වුනා. පැවිදි වෙලා අර කලින් සඳහන් කරපු තෙරණින් වහන්සේ වගේ තමයි, ගත දුර්වල වුනාට හිත දුර්වල නැත. ධර්මය අහද්දි ඇයට වීර්යය උපන්නා, මාත් මේ ජීවිතේ කෙලෙස් නසනවාමයි. ගිජ්ජකූට පර්වතයට නැගගත්තා. හැරමිටියෙන් එල්ලීගෙන අමාරුවෙන් ගිජ්ජකූට පර්වතයට නැගලා ඒ පර්වතය මස්තකයේ ඈ වාඩිවුනා. පාත්‍රය මුණින් හැරෙව්වා. මම මේ බුද්ධ ශාසනයේ අවබෝධ කළ යුතු ශාන්ත නිවනක් ඇත්ද, ඒ නිවන අවබෝධ කරලා මිසක් නැගිටින් නෑ කියලා වාඩිවුනා. නිවන අවබෝධ කරගෙන රහත් තෙරණියක් විදියට දෑස් විවර කලේ, ඉතින් ඒ අර්හත් තෙරණියත් පිරිනිවන් පානා සමයේ මෙන්න මේ ගාථා වදාළා. මං ගොඩාක් දුකට පත්වෙලා හිටියේ.

දුර්වල වෙලා හිටියේ. තරුණ කාලෙ ගෙවිලා ගිහිල්ලා හිටියේ. ඒ වුනත් මම හැරමිටියෙ එල්ලීගෙන ගිජුකුළු පර්වතය නැගගත්තා. පාත්‍රය මුණින් නවලා මං පැත්තකින් තිබ්බා. දෙපට සිවුරත් පැත්තකින් තිබ්බා. ගල් පර්වතය මත වාඩිවුනා, එතනදී තමයි මගේ හිත ආශ්‍රවයන්ගෙන් නිදහස් වුනේ. මාත් ත්‍රිවිද්‍යාව ලබාගත්තා. බුදු සසුන සම්පූර්ණ කරගත්තා. නෙත්තිකා අර්හත් තෙරණිය. චිත්තා අර්හත් තෙරණියත්, නෙත්තිකා කියන අර්හත් තෙරණියත් ඔය විදියට තමයි අර්හත් උත්තමාවියො බවට පත්වුනේ. දැන් බලන්න ඊළඟ සිදුවීම, ඒ චරිතාපදානය මෙත්තා තෙරණියගේ. මෙත්තා තෙරණියගේ චරිතාපදානය ආරම්භ වෙන්නෙ මීට කල්ප අනූ එකකට පෙර. මීට අනූ එක් කල්පයකට පෙර කිව්වම නම් පින්වතුන්ලාට සිහිපත් වෙනවා ඒ කාලෙ මොනවගේ යුගයක්ද, ඒ කාලෙ වැඩ හිටපු බුදුරජාණන් වහන්සේ කව්ද කියලා. මීට අනූ එක් කල්පයකට පෙර මේ ලෝකයට පහළ වුනේ අපගේ විපස්සී අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ. විපස්සී බුදුරජාණන් වහන්සේගේ බුද්ධ ශාසනය පවතින කාලෙ ඇය රජ කුලයක ඉපදිලා හිටියේ. රජ කුලයක ඉපදිලා ඒ රජ්ජුරුවන්ගේ අගබිසව විදියට ඇය වාසය කරනවා. විපස්සී බුදුරජාණන් වහන්සේ දහම් කතා කරනකොට ඒ ධර්මය අහලා හිත පැහැදුනා. මේ දැන් මේ රාජකීය අග බිසව ධර්ම මනසිකාරයෙන් කාලය ගතකරනවා. ධර්ම මනසිකාරනේ කල් ගතකරනකොට එතුමියට එකපාරම සිතුවිල්ලක් ඇතිවෙලා තියෙනවා මං මෙලොවින් පරලොවට යනකොට මට රැගෙන යන්න යමක් මං රැස් කරලා තියෙනවා. ඈ මොකක්ද හිතුවේ. මං මෙලොවින් පරලොවට යන කල්හි අරගෙන යන්න දෙයක් මං රැස් කරගෙන තියෙනවාද. අපි ඔහොම හිතලා තියෙනවාද පින්වතුනි මෙලොවින් පරලොවට යනකොට අරගෙන යන්න වටින දෙයක්, හොඳ දෙයක් අපි රැස් කරලා තියෙනවාද කියලා. හිතිය යුතු එකක් පරලොවට යනකොට අරගෙන යන්න හොඳ දෙයක් අපි රැස් කරලා තියෙනවාද කියන එක, ඇයි හිතන්න ඕන? අනිවාර්යයෙන් උරුම ගමනනෙ. අනිවාර්යයෙන් උරුම අනිවාර්යයෙන් යන්න වෙන ගමනනේ. යන්න බෑ මට කියලා නවතින්න බැරි ගමනනෙ. අනිවාර්යයෙන් යන්න වෙනවානෙ මෙලොවින් පරලොවට. මෙලොවින් පරලොවට යන්නම වෙනවා. තස්මා ලෝකා පරං ලෝකං, මෙලොව අත්හැර පරලොව යෑම හැම කෙනෙකුටම උරුම දෙයක්. උපන්නා නම් මේ ලෝකෙ ඉපදිච්චි හැමදෙනාට උරුමයි, යථාපි කුම්බකාරස්ස කථාමත්තික භාජනා සබ්බේ භේදන පරියන්තා ඒවං මච්චාන ජීවිතං, කුඹල් කාරයෙක් ඉතා දක්ෂ ලෙස සකස් කරන මැටි භාජනය බිඳීමෙන් නිමවී

යන්නේය. එලෙසින්මයි මේ මනුස්සයාගේ ජීවිතය මරණයෙන් අවසන් වන්නේය. ධනවත් මිනිසා ද මැරෙන්නේමය. නිර්ධන මිනිසාද මැරෙන්නේමය. උගත් මිනිසාද මැරෙන්නේමය. නූගත් මිනිසා ද මැරෙන්නේමය. වංශවත් මිනිසා ද මැරෙන්නේමය. කුලයෙන් හීන තැනැත්තා ද මැරෙන්නේමය. මේ ආදී කොට ගත් කල්හි නොමැරෙනා කෙනෙක් නැත්තේය. සියලු දෙනා මිය යනවා. එතකොට මරණය කියන ගමන, ඒ කියන්නෙ මරණය කියන ඉරණම හැමෝටම පොදුයි. මරණයත් එක්ක මෙලොව අත්හැර පරලොවට යන්න සිද්ධ වෙනවා. මෙලොවට අයිති දේවල් අපි එකතු කරගන්නවා. ඒ මෙලොවට අයිති දේවල් එකතු කරගැනීම කියන එක පරලොවට නිශ්ඵල එකක්. ඇයි හේතුව, මෙලොවට අයිති ඒවා මෙලොව දාලා යන්න සිද්ධවෙනවා. අපි හිතමු මෙලොවට අයිති දේවල් අපි එකතු කරගන්න දේවල් ගත්තොත් අපි ආභරණ එකතු කරගත්තා කියලා. දාලා යන්න සිදුවේ. ඇඳුම් ආයිත්තම් එකතු කරගත්තා කියලා, දාලා යන්න සිදුවේ. මං අරන් යනවා කියලා ලස්සන අරුංගල් දෙකක් කරේ දාගත්තා කියලා කියමු. අරුංගල් ද දමා යන්න සිදුවේ. ලස්සන මුද්ද දමා යන්න සිදුවේ. ඔක්කොම දාලා යන්න වෙනවානෙ. ඔක්කොම දමා යන්න සිදුවෙද්දි මෙලොවින් පරලොවට අරගෙන යන්න තියෙන දේ මොකක්ද, කර්මය. කර්මය කියන එක ගැන සියල්ල අවබෝධ කරපු බුදුරජාණන් වහන්සේ දේශනා කලා මනෝ පුබ්බංගමා ධම්මා මනො සෙට්ඨා මනොමයා, මහණෙනි ජීවිතේ හැමදේකටම මනස පූර්ව අංගය වෙනවා, මනස ප්‍රධාන වෙනවා. මනස ශ්‍රේෂ්ට වෙනවා. මනසාවෙ පදුට්ඨේන කෙනෙක් එබඳු වූ මනස දුෂ්ට කරගෙන චේතනාව දුෂ්ට කරගෙන, දුෂ්ට වූ චේතනාවකින් යුක්තව කයින් වචනයෙන් කටයුතු කරනවා නම් ඒකෙන් උපදිනවා දුක් විපාකයක් ඒක එයාගේ පස්සෙ එනවා හරියට කරත්තෙ ගොනෙක් බැන්දට පස්සෙ ඒ ගොනා තියන හැම පියවරක් පාසාම කරත්ත රෝදෙ පස්සෙන් එනවා වගේ. බුදුරජාණන් වහන්සේ ඒ විදියටම දේශනා කලා මහණෙනි, මනසා වෙ පසන්නේන, ප්‍රසන්න මනසකින් පහන් සිතින් පැහැදුනු සිතින් පින් සිතින් පින් චේතනාවෙන් අන්න කෙනෙක් භාසති, වචන කතා කරයි, කරොති කයින් ක්‍රියා කරයි, එකල්හි තතො නං සුඛමං තී, ඔහුට සැප විපාක ලබාදෙන කර්මය ඔහු පසුපස පැමිණෙන්නේය, ඡායාව අනපායිනි, තමාව අත්හැර නොයනා සෙවණැල්ල බඳුය. එහෙනම් තේරෙනවා පින්වතුනේ මෙලොව අත්හැර යනකොට පරලොවට ඕක තමයි වෙන එක. ඇතැමුන්ට යන්න වෙන්නෙ කරත්තයේ බැන්ද ගොනා වගේ. ඇතැමුන්ට යන්න පුලුවන් හරියට නිවී හැනහිල්ලේ යන නිදහසේ යන

මනුස්සයෙක් වගේ. ඒ මනුස්සයා පස්සෙ හෙවණැල්ල කියන එක කොහොමත් එනවා. හෙවණැල්ල කියන එක ඇදගෙන යන්න ඕන නෑ, ගෙදරින් එළියට යනකොට අපි හෙවණැල්ල අමතක වෙලා යනවා කියලා එකක් නෑ, හෙවණැල්ල කියන එක අපට නොදැනීම අපි පස්සේ එනවා. ඒ වගේ රැස් කරන පින සැපය සුවය සැනසිල්ල රැකවරණය ලබාදිදී පස්සෙන් එනවා. එතකොට මේ රජදුව හිතුවේ පින්වතුනේ මං මැරිලා යනකොට අරන් යන්න දෙයක් මං රැස් කරගෙන තියෙනවාද. රජ කුලයක රජ දේවියක්, මෙලොව ජීවිතයට පැවැත්මට රැස් කරලා තියෙන දේ ගැන ඇයට හිතන්න දෙයක් නැහෙ. ඇයට ආරක්ෂාව තියෙනවා, ඇයට ධනය තියෙනවා, ඇයට කුලය බලය මේ ඔක්කොම තියෙනවානෙ. ඒ ඔක්කොම රැස් වෙලා. හැබැයි පරලොවට යන එක ගැන, බලන්න බුදු බණක් නිසා ඇයට සැලසිච්චි යහපත. ඇය කල්පනා කලා මං පරලොව ගමනට සූදානම් වෙලා නෑ, එසේ නම් මා පරලොව ගමනට සූදානම් විය යුත්තේය. කොයි වෙලාවෙද පරලොව ගමනට සූදානම් වෙන්නේ පින්වතුනි? පරලොව ගමනට අපි සූදානම් වීමට පටන් ගත යුත්තේ කවදා ඉඳන් ද? අවුරුදු පනහ පනස් පහ පැන්නහමද? පරලොව ගමනට සූදානම් විය යුත්තේ දැන් දැන්. ඇයි හේතුව දැන් දැන් සූදානම් විය යුත්තේ? මරණය එන නිමේෂය කවුද දන්නෙ. මරණයට වයස් භේද නෑ, මරණයට තැනක් නොතැනක් නෑ, මරණය කියන එක කොයියම් හෝ ඇසිල්ලක අපේ ජීවිතේ කරා එනවා. එද්දි ආ සැණින් අනේ මට යන්න බෑ කියලා ඉන්න බෑ. යන්න සිද්ධවෙනවා. ඒ යනකොට පරලොව ගමනට නොපමාව සූදානම් වෙලා ඉන්න ඕන. ඈ රජ්ජුරුවන්ගෙන් වර ඉල්ලුවා. රාජදේවී රජ්ජුරුවො ළඟට ගිහිල්ලා කියනවා, දේවයිනි මට වරයක් ඕන. මට හැමදාම මේ රජමාළිගාවේ දන් දෙන්න ඕන. ඇය භික්ෂුණීන් වහන්සේලා, තෙරණින් වහන්සේලා වඩම්මලා දන් දීමේ වරම ලැබුවා. ඉතින් ඈ දැන් දානෙ පූජා කරනවා. දානෙ පූජා කලාට පස්සෙ ඈ සතුටුයි සිල් සමාදන් වෙන්න. ඉතින් නිති පඤ්චසීලය ආරක්ෂා කරනවා. සතර පෝයට ඈ උපෝසථ සමාදන් වෙනවා. ඈ නිතර බණ අහනවා. අහන බණ පද පුරුදු වෙනවා. බුද්ධානුස්සතිය ආදී භාවනා නිතර නිතර කරනවා. පින් පුරාගත්තා. පරලොවට අරගෙන යාම පිනිස ලස්සන දෙයක් ඈ එකතු කලා. පරලොව යන්න සිද්ධ වෙද්දි ඒ ටිකත් අරගෙන ගියා. ඒ ටික අරගෙන යන්න පුලුවන්නේ කොහේටද, ඒ ආදී හොඳ දේවල් රැස් කරලා තිබුනොත් ඒ පින විසින්ම සුදුසු තැනට අරගෙන යනවා. ඈ ගියේ දෙව්ලොව. දෙව්ලොව ඉපදිලා තමන් විසින්ම රැස් කරගත්ත පිනේ සැපය ඈ භුක්ති වින්දා. දෙව්ලොව

ගොඩාක් සැප වින්දා. දෙව්ලොවදී ලැබිච්ච යහපත් ඇසුර නිසා අනූ එක් කල්පයක් ඇතුලේ පිරිහෙන් නැතිව දෙව්ලොව සුගතියේම ඉන්න ඇට අවකාශ ලැබුනා. ඈ විටින් විට ආවත් මනුස්ස ලෝකෙට එනවා. මනුස්ස ලෝකෙට ආවත් යහපත් තැනකට එන නිසා සත්පුරුෂයො මුණගැහෙනවා, පිරිහෙන් නෑ, ආයෙ දෙව්ලොව යනවා. ඔහොම ඔහොම පින් පුරාගෙන ආවා. ඒ පැමිණිලා මේ බුද්ධ කාලයේ, අපේ අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ පහළ වෙන කාලයේ ඈ උපන්නේ කපිලවස්තුවේ. ශාක්‍ය රජදුවක්. ඇගේ නම මෙත්තා. මේ මෙත්තා තරුණ වයසට එනකොටම බුදු බණ අහන්න ලැබුනා. මේ ශාක්‍යයෝ භාග්‍යවතුන් වහන්සේගේ සරණ ආදරෙන් වැළඳගත්තනෙ. ශාක්‍ය පිරිස ශාස්තෘන් වහන්සේව හඳුන්වපු නම ශාක්‍යයන්ගේ මහා මුණින්ද්‍ර, අපේ ශාක්‍ය වංශයේ මහා මුණිවරයා කියලයි බුදුරජාණන් වහන්සේව ශාක්‍යයො හැඳින්වූවෙ. ඉතින් ශාක්‍යයො බුදුසරණ, දහම් සරණ, සඟ සරණ ආශාවෙන් වැළඳගත්ත පිරිසක්. එතකොට මේ මෙත්තාවත් තරුණ වයසේ ඉඳලා බණ අහනවා, ධර්මයේ හැසිරෙනවා, ඇය ඒ විදියට උපාසිකා භාවයට පත්වුනා. උපාසිකා භාවයට පත්වෙනවා කියලා කියන්නෙ මොකක්ද පින්වතුනි, සාමාන්‍ය ස්ත්‍රියක් උපාසිකා වෙනවා කියන්නෙ? සාමාන්‍ය ස්ත්‍රියක් උපාසිකාවක් බවට පත්වෙන්නෙ හදවතින්ම බුද්ධං සරණං ගච්චාමි කියා සරණ යාමෙන්. ධම්මං සරණං ගච්ඡාමි කියා සරණ යෑමෙන්. සංඝං සරණං ගච්ඡාමි කියා සරණ යෑමෙන් උපාසිකා බවට පත්වේ. එතකොට ඔය නැකැත් ආදී ඔලුවේ තියාගත්තු මිත්‍යා දෘෂ්ටිය ඔක්කොම අත්හැරලා කේන්දර අත්හැරලා, වේලාපත්කඩ අත්හැරලා මේ සියල්ල අත්හැරලා යම් ස්ත්‍රියක් අද වුනත් බුද්ධං සරණං ගච්ඡාමි කියා බුදුරජුන් සරණ යන්නේද, ධම්මං සරණං ගච්ඡාමි කියා ධර්මය සරණ යන්නේද, සංඝං සරණං ගච්ඡාමි කියා සඟරුවන සරණ යන්නේද ඈ වනාහි උපාසිකා ය. ඈ උපාසිකාවක්. ඉතින් ඒ උපාසිකා බවට පත්වුනා තරුණ වයසේදීම. තරුණ වයසෙදිම උපාසිකා බවට පත්වෙලා නිකං උපාසිකා නෙවෙයි සීලවන්ත උපාසිකාවක් බවට පත්වුනා නිති පන්සිලා රකින. නිති පන්සිල් විතරක් නෙවෙයි ඇය රැක්කෙ, හතරපෝයටම උපෝසථ සිල් ආරක්ෂා කර කර ඈ හොඳට සේඛබල ධර්ම පුරුදු කලා. ඒ සේඛ බල ධර්ම ඈ පුරුදු කලේ ඇට භික්ෂුණීන් වහන්සේලා කියලා දුන්නා දේවතානුස්සති, දේවතානුස්සති භාවනා කියලා කියන්නෙ මේ සේඛ බල ගැන කල්පනා කර කර ඒ ගුණධර්ම ගැන හිත හිත වඩන එකක්. දේවතානුස්සතිය වඩන ශ්‍රාවකයා හෝ ශ්‍රාවිකාව කොහොමද හිතන්නෙ, මේ දෙව්ලොව ඉපදිලා ඉන්න දෙව්වරු

ඉන්නවා තව්තිසාවෙ, චාතුම්මහාරාජිකයේත් ඉන්නවා, ඊළඟට තව්තිසා, ඊළඟට යාමය, තුසිතය, නිම්මාණරතිය, පරනිම්මිතවසවර්තිය මේ දිව්‍ය ලෝක වල ගොඩාක් සැප සම්පත් ඇතිව දෙවිවරු ඉන්නවා. දේවතාවියොත් ඉන්නවා. ඒ ගොල්ලො එහෙ ගියෙ ශ්‍රද්ධා, සීල, සුත, ත්‍යාග, පඤ්ඤා කියන සේඛ බල ඒ ඇයන්ට තිබුනු නිසා. එහෙම නම් ඒ ඇයො තුල යම් ශ්‍රද්ධාවක් තියෙනවාද මං ගාවත් ශ්‍රද්ධාව තියෙනවා. ඒ දෙවි දේවතාවුන් තුළ යම් සීලයක් තියෙනවා නම් මා ගාවත් සීලය තියෙනවා. ඒ අය තුළ යම් දහම් දැනුමක් ශ්‍රැතයක් තියෙනවා නම් මා ගාවත් දහම් දැනුම ශ්‍රැතය තියෙනවා. ඒ අය යම් අයුරකින් දන් පැන් ආදිය පූජා කරනවා නම් මාත් දන් දෙන කෙනෙක්. ඒ අය ධර්මය නුවණින් විමසලා යම් ප්‍රඥාවක් ඇතිකරගෙන ඉන්නවාද, මාත් ප්‍රඥාව තියෙන කෙනෙක් කියලා අර ශ්‍රද්ධා සීල සුත ත්‍යාග පඤ්ඤා තමයි බලන්නෙ. එතකොට තමන් තව තවත් උනන්දු වෙනවා සේඛ බල දියුණු කරන්න සුගති රැකවරණ පතා. සුගති රැකවරණය, සුගතියේ ලැබෙන ආරක්ෂාව ගැන සිහි කර කර දේවතානුස්සතිය වඩ වඩ ඈ ගුණ පුරමින් හිටියා. එතකොට මේක මේ බුද්ධ ශාසනයට අයිති නැති එකක් නෙවෙයි, පරිබාහිර එකක් නෙවෙයි. දෙව්ලොව ගැන හිතීම. මේ දෙව්ලොව ගැන කල්පනා කියලා ඊළඟට දෙව්ලොව උපතට යම් සතුටු හිතක් ඇතිකරගත්තා කියලා, දෙව්ලොව උපදිනවා කියලා කියන්නෙ පරිහානිකර කාරණාවක් නෙවෙයි. ඉතින් උඩඟු හිත් ඇති අයගේ අසද්ධර්ම ප්‍රචාර හින්දා තමයි අපිට මේ කාරණා තරමක් තරව කියන්න සිද්ධ වෙලා තියෙන්නෙ, මේ කාරණය හොඳට තේරුම් කරදීම පිණිස. එතකොට බලන්න ඒ පින්වන්ත උපාසිකාව එහෙම ගුණ පුරමින් ඉද්දි සේඛ බල සිහි කරමින් දේවතානුස්සති වඩ වඩා ඉද්දි ඈට සිතිවිල්ලක් උපදිනවා පැවිදි වෙන්න ඕන කියලා. ඉතින් ඈ අවසර පැතුවා, ඇයට අවසරය ලැබුනා. ඈ පැවිදි වුනා. පැවිදි වෙලා ඉතාම කෙටි කාලයයි, ඈ සියලු කෙලෙසුන් නැසූ අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. එතකොට අර දෙවියන් අතරේ උපදිනවා කියලා ඈට තිබූ හිත අර්හත්වයට බාධාවක් කලේ නෑනෙ. ඈට පින තිබුනා ඊට වඩා ඉහළට මේ ජීවිතේදිම හිත දියුණු කරගන්න. ඇගේ ගුණධර්ම වේගයෙන් වැඩී ගියා. ඇය අර්හත් තෙරණියක් බවට පත්වුනා. ඒ අර්හත්වයට පත්වුනාට පස්සෙ ඒ උත්තමාවිය පිරිනිවෙනා මොහොතේ ගාථා වදාළා. බලන්න ඒ ගාථා. බොහොම ලස්සන ගාථා. චාතුද්දසිං පඤ්චදසිං යාචපක්ඛස්ස අට්ඨමී පාටිහාරිය පත්තඤ්ච අට්ඨංග සුසමාගතං උපෝසතං උපාගංචිං දේවකායා අභිනන්දිනි, මං ඉස්සර ප්‍රාර්ථනා කලේ දිව්‍ය ලෝකයක උපදින්නයි, සතර

පෝයටම අටසිල් උපෝසථය සමාදන් වෙලා සිල් රැක්කා. ගිහි ජීවිතේ ගතකරනකොට ප්‍රාර්ථනා කලේ දෙව්ලොවක උපදින්න, ඇයි දෙව්ලොවක උපදින්න පැතුවේ මේ පුරන ගුණධර්ම වලින් දෙව්ලොවක රැකවරණ ලැබුනොත් තව දුරටත් ශාසන ප්‍රතිපදාව දියුණු කරගන්න අවස්ථාව ඒ දෙව්ලොවේදී මා හට ලැබෙන්නේය කියලා ඈ දන්න නිසා. මේ මනුස්ස ලෝකෙ පින්වතුනි මේ මිනිස්සු විදියට අපි ධර්මය පුරුදු වෙවී එනවානෙ. ධර්මය පුරුදු වෙවී එද්දී යම් කලෙක මරණය පැමිණුනොත්, ඒ මරණය පැමිණෙද්දි යළි ධර්මය පුරුදු වෙන්න පුලුවන් තැනකට ගියොත් නේද අපිට ආයෙ ධර්මය පුරුදු වෙන්න පුලුවන් වෙන්නෙ, එහෙම නැතුව මේ ධර්මය පුරුදු වෙන්න පුලුවන් පරිසරය අපිට සඳුන මගහැරුනොත් ආයෙ කොහොම ධර්මයක හැසිරෙන්නද. අන්න ඒක තමයි සුගතියකට එන අවකාශය. දෙව්ලොවකට ගිය කෙනාට යළි බණ අසන්න ලැබෙයි, යළි තෙරුවන් සරණ යන්න ලැබෙයි, යළි පින් පුරාගන්න අවස්ථාව ලැබෙයි, ඒ අවස්ථා ඔක්කොම එහි තියෙන පරිසරය තුළ නිර්මාණය කරගන්න පුලුවන්. හැබැයි දුගතියක ඒ කිසිඳු අවකාශ නැත. දුගතියක් තුළ ඊට අවකාශ නැත. දුගති ලෝක වල ඒ අවකාශය සම්පූර්ණයෙන් වැසී යන්නේය. ඒ නිසාමයි මේ දේවතානුස්සතිය ආදී භාවනා ශාස්තෘන් වහන්සේ විසින්ම දේශනා කලේ. ඉතින් ඒ අර්හත් උත්තමාවිය මේ විදියට වදාරනවා, ඒ දැන් මං එක වරුවයි වළඳන්නෙ. හිස මුඩු කරගෙන පාත්‍ර සිවුරු ඇතිවයි ඉන්නෙ. හදවතේ තිබුනු ඔක්කෝම කෙලෙස් නැති කරලා දැම්මා. දැන් මං දිව්‍ය ලෝකය පතන් නෑ. දැන් ඉතින් එතුමිය සියලු ලෝක වලින් නිදහස් නෙ. කෙලෙස් නසලා, අර්හත්වය පසක් කරලා. ගුණධර්මයන්ගෙන් පූර්ණත්වයට පත්වෙලා. ඈ නිවී ගියා. ඒ නිසා පින්වතුනේ මේ සුන්දර ගාථා වදාළ අර්හත් තෙරණිවරුන්ගේ චරිතාපදාන අහපුවාම අපිට අපේ ජීවිතයට ගලපාගන්න බොහෝ දේ තිබෙනවා. ඒ නිසා හොඳට පින් පුරන්න ඕන. ජීවිතේ තියෙන අනිත්‍යය භාවය ගැන අපිත් තේරුම් ගන්න ඕන. සේඛ බල ධර්ම දියුණු කරගන්න මහන්සි ගන්න ඕන. ඒ සේඛ බල ධර්ම ගුණ ධර්ම වශයෙන් දියුණු වේගෙන යනකොට ඒ ගුණධර්ම වලට පුලුවන් මේ ජීවිතේ අහිමි වෙනකොට අපිව සුගතියකට අරගෙන යන්න. අපිට ඊට වඩා පින් තියෙනවා නම් මේ ජීවිතය ඇතුලේ මාර්ගඵල ආදිය සාක්ෂාත් කරන්න අර සේඛ බල ධර්මම තමයි ඒකට උදව් කරන්නෙ. ඒ නිසා ඒ සේඛ බල ධර්ම සුගති උපතක් අධිෂ්ටාන කරගෙන ඒ සේඛ බල ධර්ම වඩනවා කියන එක කිසිම අයුරකින් ධර්මාවාබෝධයට බාධාවක් නෙවෙයි. ඒ නිසා හොඳට සේඛ බල ධර්ම දියුණු කරගන්න ඕන. ඒ

දියුණු කරගෙන මේ උත්තමාවියො නිවී සැනසුනා වගේ අපිටත් අපේ ජීවිත සනසාගන්න තියෙන්නෙ පින්වතුනේ සම්බුද්ධ ශාසනය ඇතුලේ. ඉතින් මේ චිත්තා තෙරණිය, මෙත්තිකා තෙරණිය, මෙත්තා තෙරණිය යන ඒ අර්හත් උත්තමාවියන්ට, අර්හත් තෙරණිවරුන්ට වන්දනා කරමින් අපිත් සිතින් අධිෂ්ටාන කරමු අපිටත් ඒ අර්හත් තෙරණින් වහන්සේලා, ඒ උතුම් රහතන් වහන්සේලා නිවී සැනසුනු අමාමහ නිවන අවබෝධ කරගන්න වාසනාව ලැබේවා, සාදු සාදු සාදු!!!

අප විසින් රැස් කලා වූ සියලු පින් සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරුන් සෙන්පති දෙවිවරුන් ප්‍රධාන සදෙව් ලෝකවාසී දෙවිවරුන්, අපගේ ඉෂ්ටකාමී හිතකාමී සියලු දෙවිවරුන් ශ්‍රීමත් සුමන සමන් දෙව්රජ ප්‍රධාන ලංකා භූමිය සුරකින සියලු දෙවිවරුන් අනුමෝදන් වෙලා දෙවියෝ දිව්‍ය සැපයෙන් වැඩේවා. ඒ දෙවියෝ අපව ආරක්ෂා කරත්වා, සාදු සාදු සාදු!!! අපගේ ගුරුදේවොත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව නිරෝගීව දීර්ඝායුෂ ලබත්වා, මේ ගෞතම ශාසනය තුළම උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන් අවබෝධ කරගන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයෝ අද දවසේ ධර්ම දානමය පින්කම සිදු කරන ඒ සුපින්වතුන්ලාගේ නමින් 2020 ජූනි මාසෙ 4 වන දින මියපරලොව යන්න යෙදුනා වූ පින්වත් සෝමා විජේරත්න මැණියන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. මියපරලොව ගිය විජේරත්න පියාණන්ට, අයිරාංගනී විජේරත්න සහෝදරියට සහ චන්ද්‍රතිලක සහෝදරයා ඇතුළු නමින් මියගියා වූ සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට පින්පෙත් අනුමෝදන් වෙත්වා. අනන්ත සසර පුරාවට මියගිය ඒ සියලු ඥාතීන් පරලොව වශයෙන් සැපයටම පත්වෙත්වා, අපගේ ඥාතීන් මේ දුක් සහිත සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන අදහසින් ඥාතීන්ට පින් අනුමෝදනා සිදු කරන්න. සුජීවත්ව සිටින සෝමා අමරසිංහ මැණියන්ට, කරුණාතිලක පියාණන්ට, අනුර විජේරත්න, පියවර්ධන, වියානි, ශ්‍යාමලී, සුසිල්, තෂිලා යන සහෝදර සහෝදරියන්ට මේ හැමදෙනාට පින් අනුමෝදන්ව නිදුක් නිරෝගී සුව සැලසේවා. දීර්ඝායුෂ සැලසේවා. ඒ හැමදෙනාට ධර්මාවබෝධය පිණිස මේ පින හේතුවේවා. තිලිනි නවාංජනා, ඩිලාන් ශාලික, කුෂාරා දිමල්කි, ගීනාත් හිම්සර, ෂෙහාන් ධනුෂ්ක, සංගීත් තාරින්දද කියන ඒ දරුවන්ට පින් අනුමෝදන් වෙලා ඒ දරුවො හැමදෙනා නිදුක් වෙත්වා, නිරෝගී වෙත්වා, දීර්ඝායුෂ සම්පත් ලබත්වා,

ජීවිතයට යහපත සළසන උතුම් සත්පුරුෂයෝ ඒ දරුවන්ගේ ජීවිතයට නිති මුණගැහෙත්වා. අසත්පුරුෂ ආශ්‍රයට කිසි කලෙකත් යොමු නොවෙත්වා. සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ බුද්ධ ශාසනයේ මුණගැහිච්ච ජීවිතය ඒ දරුවන්ට බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක දූලා පුතාලා බවට පත්වෙලා බුදු සසුනේ පිළිසරණ ලබන්න වාසනාව ලැබේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. අද ධර්ම දානය සිද්ධ කරන ඒ පින්වතුන්ලා බලාපොරොත්තු වෙන ආකාරයෙන්ම කොරෝනා වෛරසය හේතුවෙන් රෝගාතුරව සිටින ලංකාවාසී ලෝකවාසී හැමදෙනාට ඉතා ඉක්මණින් නිදුක් නිරෝගී සුව ශාන්තිය ලැබේවා කියලා අපි සෙත් ශාන්තිය ප්‍රාර්ථනා කරමු, අපි හැමදෙනාම ධර්ම දානය සිදු කරන ඩබ්.ජී. සරත් විජේරත්න මහත්මාට, විජිතා කරුණානායක මහත්මියට, පවුලේ හැමදෙනාට මේ සියලු පින් අනුමෝදන් වී ඒ පින්වතුන්ලාගේ රැකී රක්ෂා ආදී කටයුතු දූ දරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදී ඒ සියල්ල සර්වප්‍රකාරයෙන් සාර්ථක වෙත්වා, ශ්‍රද්ධා මාසික ධර්මදාන සාමාජික පින්වතුන්ලාට ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ හැමදෙනාට, සුපින්වත් ඔබ හැමදෙනාට පින් අනුමෝදන් වී සියලුදෙනාට නිදුක් නිරෝගී සුව සැලසේවා, කල්‍යාණ මිත්‍ර ඇසුරේ සුවසේ පින් පුරාගෙන සුවසේ දහමේ හැසිරී චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න ඔබ හැමදෙනාට වාසනාව සැලසෙත්වා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=OcK_06xJ_lk

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද දවසේ මේ උතුම් ධර්මදානය සිදු කරන්නේ 2010 ජූනි මාසයේ අට වෙනි දින මියපරලොව යන්න යෙදුනු විශ්‍රාමලත් විදුහල්පති පින්වත් කේ.ඒ. ප්‍රේමරත්න මහතාට පින්පෙත් අනුමෝදනා කරන අදහසින්, නො.39 බී, පන්වැව දකුණු කැබිල්ලව බණ්ඩාරවෙල යන ලිපිනයේ පදිංචි පින්වත් ආර්.එම්. කුමාරිහාමි බිරිඳ සහ දූදරුවන්, ඥාති හිතමිත්‍රාදීන් සෑම සියලු දෙනා ඒකරාශී වෙලා. ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු ගැනයි අපි මේ දේශනා මාලාවේදී ඉගෙන ගන්නෙ. අද දවසේ අපි ඉගෙන ගන්නෙ අභයමාතා කියන තෙරණියගේ චරිතාපදානය. ඒ වගේම අභයා කියන තෙරණියගේ චරිතාපදානය. සංසාර ගමනේ පින්වතුනේ අපිට ඉපදෙමින් මැරෙමින් පැමිණෙනකොට මේ සංසාර ගමනේ අපිට තියෙන විශාල බලපෑමක් කර්මයේ බලපෑම. බුදුරජාණන් වහන්සේ කර්මය ගැන වදාළේ, කර්මස්සකා සත්ත - සත්වයෝ ස්වකීය දේ තමන්ගේ දේ කරගෙන ඉන්නෙ කර්මය. කම්ම දායාදා - මේ සත්වයාට දැවැද්ද බවට පත්වෙන්නෙ කර්මය. කම්ම යෝනි - සත්වයෝ උපදින තැන තීරණය කරන්නෙ කර්මය විසින්. කම්ම බන්ධු - සත්වයාට ඥාතියා හිතවතා බවට පත්වෙන්නෙ කර්මය. කම්ම පටිසරණා - පිළිසරණ බවට පත්වෙන්නෙ කර්මය. යං කම්මං කරිස්සාමි කල්‍යාණං වා පාපකං වා - යම් කර්මයක් සිද්ධ කරනවා නම් කල්‍යාණ වූ කල්‍යාණ කියලා කියන්නෙ යහපත් හොඳ එකක් වෙන්න පුලුවන්, පාපකං, පාපී ලාමක එකක් වෙන්න පුලුවන්, තස්ස දායාදො භවිස්සති, ඒක දැවැද්ද බවට, ඒක උරුමය බවට පත්වෙනවා. එහෙම තමයි මේ සංසාර ගමනෙ කතන්දරය තියෙන්නෙ. කර්මය ස්වකීය කරගෙන යන ගමනක්. කර්මය කියලා කිව්වෙ මොකක්ද, චේතනාහං භික්ඛවෙ කම්මං වදාමි, මහණෙනි චේතනාවමයි කර්මය. චේතයිත්වා කම්මං කරොති කායේන වාචාය මනසා, චේතනා පහළ කොට කයින් කරන ක්‍රියාව කර්මය බවට පත්වේ. චේතනා පහළ කොට වචනයෙන් කරන කතාව කර්මය බවට පත්වේ. චේතනා පහළ කොට හිතින් හිතන සිතුවිල්ල කර්මය බවට පත්වේ. එතන සත්වයාගේ ජීවිත ගමනට සාංසාරික ගමනට විශාල බලපෑමක් කරන දේ කර්මය. හරියට රථ රෝදයක් රථයෙන් ගැලවීමට නොදී ශක්තිමත්ව සවිමත්ව රඳවා පවත්වන කඩඇණය වගේ. කරත්තෙකට රෝදෙ හයි කරලා ඒ රෝදය ගැලවෙනවාට ගහනවා හරහට ඇණයක්, ඒ ඇණේට කියනවා කඩ ඇණය. කඩ ඇණය යම්තාක්

තියෙනවාද කඩ ඇණය තියෙනතාක් රෝදය රථයෙන් ගැලවෙන් නෑ. ඒ වගේ මේ සංසාර ගමනේ අපි රැස් කරන කර්මයත් එක්ක තමයි අපි සසරට බැඳෙන්නෙ. අපි රැස් කරන කර්මය යහපත් කර්මයක් නම් ඒ කර්මය තුළ සැප උපද්දනවා. අපි රැස් කරන කර්මය අයහපත් එකක් නම් ඒකෙන් අපිට පාපී වූ දුක් උපදිනවා. දැන් අභයමාතා කියන අර්හත් උත්තමාවියගේ චරිතාපදානය ගත්තහම ඒ උත්තමාවිය පින් පුරන්න පටන්ගෙන තියෙනවා තිස්ස කියන බුදුරජාණන් වහන්සේගේ යුගයේ. තිස්ස බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළ වෙලා හිටපු යුගයේ ඈ මනුස්ස ලෝකයේ හිටපු සාමාන්‍ය කාන්තාවක්. ඇය නිතරම දානෙ පූජා කලා. ඒ කාලෙත් බුදු බණ අහනවා. බුදු බණ අසමින් ඇය දන් පැන් පූජා කලා. ඉතින් දවසක් මෙහෙම දානෙ පූජා කරනකොට, ඈ නිවසට වෙලා දානෙ පූජා කරනවා, භික්ෂු සංඝයා පිණ්ඩපාතෙ වඩිනවා. දවසක් මෑ ජීවත් වෙච්චි වීදියේ තිස්ස බුදුරජාණන් වහන්සේ පිණ්ඩපාතෙ වැඩියා. බුදුරජාණන් වහන්සේ පිණ්ඩපාතෙ වඩිනවා දැක්කහම ඇගේ හිත හරියට පැහැදුනා. ඇය දානෙ හැන්දක් පූජා කරගත්තා. ඉතාම ශ්‍රද්ධාවෙන්, අනේ අද අපේ වීදියේ බුදුරජාණන් වහන්සේ පිණ්ඩපාතෙ වැඩියා. ඇය එහෙම දානෙ බෙදුවා. එහෙම දානෙ බෙදනකොට ඒ මහා කාරුණික ශාස්තෘන් වහන්සේ, තිස්ස සම්බුදුරජාණන් වහන්සේ ඇගේ දානය පිළිගත්තා. ඒ දානෙ පිළිගත්තට පස්සෙ ඇයට හරී සන්තෝෂයි. ඇය භාග්‍යවතුන් වහන්සේට දන්පැන් පූජා කොට බුදුරජාණන් වහන්සේට ආදරයෙන් ගෞරවයෙන් වන්දනා කලා. එහෙම නම් එතන සිද්ධ වුනේ මොකක්ද? සිත කය වචනයෙන් යහපත් වූ පිනක් ඈ රැස් කලා. ඈ රැස් කරපු ඒ පින කුමක්ද? ඈ රැස් කරපු පින බුදුරජාණන් වහන්සේ කෙරෙහි සිත පහදවාගැනීම. බුදුරජාණන් වහන්සේට දානෙ පූජා කොට තමන්ගේ කයින් යහපත් වූ ක්‍රියාව සිදු කිරීම. ඒකත් කර්මයක්. අන්න ඒ තුළින් ඈ පුණ්‍ය කර්මයක් රැස් කරගත්තා, ඇගේ සංසාර ගමනේ පසුපසින් ඇවිල්ලා සැප විපාක ලබාදෙන දෙයක්. එතකොට ඔය තිස්ස බුදුරජාණන් වහන්සේගේ යුගයේ ඇය ඒ විදියට රැස් කරගත්ත පින, ඈ මහා පින්කමක්නෙ සිද්ධ කලේ. ඈ ඒ විදියට තිස්ස බුදුරජාණන් වහන්සේගේ යුගයේ රැස් කරගත්ත පින ඇට ඊටපස්සෙ බොහෝ කල් සැප විපාක ලබාදීලා තියෙනවා. හැබැයි පින්වතුනේ එක තැනක වැරදුනා. ඔය තිස්ස බුදුරජාණන් වහන්සේගේ කාලෙ ඉඳලා ඈ පින් පුරාගෙන එනකොට මේ සංසාර ගමනේ කොයියම්ම හෝ ජීවිතයක ඇයට බුද්ධ ශාසනයක් මුණ ගැහුනා. ඒ බුද්ධ ශාසනයේ පැවිදි වෙන්නත් ලැබුනා. ඒ වුනාට ඒ පැවිද්දෙදි ඇයට වැරදුනා. ඇය

ගුණවත් භික්ෂුණියකට, ඇත්තටම අර්හත් භික්ෂුණියකට කිපුණු හිතින් ගණිකාවාදයෙන් වෛශ්‍යාවක් කියන වචනයෙන් ඒ අර්හත් උත්තමාවියට ගැරහුවා. ඒ ගැරහුවාට චේතනාව තියෙන්න එපැයි. චේතනා පහළ කරලා ඒ කේන්ති ගියපු හිතින් ඈ ගර්හාවක් කලා. බලන්න මේ අපිට සාමාන්‍යයෙන් පින්වතුනි මේවා දැනගන්න එක අපිට අපේ සංවරය පිණිස ඒ කියන්නෙ අපිට සමහර වෙලාවට අපිට ගාණක් නැහැ අපිට කේන්ති ගියාම අපි ඔහේ වචන පිට කරලා දානවා, අපේ අදහස් ඔහේ කියනවා. නමුත් ඒවා කතා කරනකොට මෙච්චර බරපතලෙට ඒවා දැනෙනවා කියලා අපි කොහොමටවත් හිතන්නෑ. නමුත් අපි චේතනා පහළ කොට යම් ක්‍රියාවක් සිද්ධ කරලා අවසන් වෙනකොට ඒකට පින්වතුනි කර්මය හැදෙනවා. ඇයට බැරිවගියා අර අර්හත් උත්තමාවියව සමාකරගන්න. සමාකරගත්තෙ නෑ, සමාකරගන්නෙ නැතිව උඩඟු කමින්, අහංකාරකමින් හිටියා. ඒ කර්මය වැඩ කලා. ඒ කර්මය වැඩ කරනකොට ඒකෙන් සැප විපාක ලබාදෙන්නෙ නෑ. ඇයි හේතුව, උතුම් කෙනෙකුට හිත අපහදවගත්තා, ඒ හිත අපහදවගැනීමත් කර්මයක්. හිත අපහදවාගෙන, සමහර විට අතපය දික් කර කර කයිනුත් ක්‍රියා කලා. වචනයක් කිව්වා, බොහොම ලාමක වචනයක්, උතුම් කෙනෙකුට පාවිච්චි නොකළ යුතු වචනයක් ඈ පාවිච්චි කලා. අද වුනත් අපිට පේනවා, අද වුනත් පේනවා සමාජ මාධ්‍යය ආදියේ මිනිස්සු උතුම් අයට ගරහන හැටි. ඒ ගර්හාවේදී උතුම් ගුණවත් කෙනෙකුට භාවිතා කිරීමට නොගැලපෙන වචන කිසි බයක් සැකක් නැතිව පාවිච්චි කරන හැටි අපිට පේනවා. කරන්න ලේසියි, මේක විඳවන්න ගියාම හරී භයානකයි විඳවිල්ල. බුද්ධ ශාසනය කියලා කියන්නෙ පින්වතුනි මේ ලෝකයේ තෙරුවන් පහළ වෙන යුගය. බුද්ධ ශාසනයක් තියෙනවා කියලා කියන්නෙ ලෝකයේ තෙරුවන පහළ වෙලා තියෙනවා. ලෝකයේ තෙරුවන් පහළ වෙලා තියෙද්දි මේ මනුස්සයාට බොහෝ පින් කරගන්න අවකාශ ලැබෙනවා. බොහෝ පින් කරගන්න අවකාශ ලැබෙනවා, හේතුව? බුදුරජාණන් වහන්සේ අග්‍රයි. බුදුරජාණන් වහන්සේ මුල් කරගෙන පින් කලොත් අග්‍ර පුණ්‍ය ඵල. ඒකෙ විපාක අග්‍රයි. ධර්මය ලෝකයේ අග්‍ර දෙයක්, ධර්මය මුල් කරගෙන පින් කලොත් විපාකය අග්‍රයි. සඟරුවන ලෝකයේ අග්‍ර පිරිස, සඟරුවන මුල් කරගෙන පින් කලොත් විපාකය අග්‍රයි. ඒ වගේමයි අනිත් පැත්ත. බුදුරජාණන් වහන්සේ ලෝකයේ අග්‍රයි, ධර්මය, සඟරුවන ලෝකයේ අග්‍රයි. මේ තෙරුවනට ගර්හා කරලා මේ තෙරුවන කෙරෙහි වරදවා පිළිපැදීමෙන් සකස් වෙන කර්මය, ඒ පාපී කර්මය හරිම බරපතලයි. හරිම බරපතල එකක්. ඔය එක අවස්ථාවක අපේ

පරණ සිංහල බණ කතාවල තියෙනවා මේ ලංකා භූමියේ සඟ පිරිසක් දඹදිව හතර ස්ථාන වන්දනා කරනවා කියන අදහසින් නැව් නැගුනා. නැව් නැගිලා මේ නෞකාවෙන් දඹදිවට ඒ උත්තමයො පිටත් වෙලා ගියෙ. මේ දඹදිව යන ගමනේදී මේ සැඩ කුණාටුවකට අහුවුනා නැව. බලාපොරොත්තු වුන තොටුපලට නෙවෙයි නැව ගොඩගැහුවෙ, නැව ඇදිලා ගිහිල්ලා වෙන නොදන්නා පළාතක මේ නැව ගොඩගැහුවා. ඒ නැව ගොඩගැහුවාම මේ ස්වාමීන් වහන්සේලා පිරිස විතරයි හිටියේ. නැවක් කිව්වට මේක විශාල නෞකාවක් නෙවෙයි, ඒ ස්වාමීන් වහන්සේලා පිරිස මේ නොදන්නා තොටුපලින් ඔන්න බැහැ ගත්තා. බැහැගෙන ස්වාමීන් වහන්සේලා ඇතුලට යනවා ජනාවාසයක් හොයාගෙන. යනකොට යනකොට රෑ බෝවේගෙන ආවා, සාමාන්‍යයෙන් හවස් කාලෙ එනකොට මහා ගණ වනාන්තරය ඇතුලෙ. උන්වහන්සේලා කතා වුනා දැන් මේ ගණ වනාන්තරය ඇතුලෙ රාත්‍රියට ගොදුරු හොයාගෙන යන සත්තු එනවා, එහෙම සැඩ සතෙකුට එහෙම අපි අහුවුනොත් අපේ ජීවිතේට අනතුරක්. ඒ නිසා අපි මේ වෙලාවේ උස් තැනක් හොයාගන්න ඕන. උන්වහන්සේලා වටපිට බලද්දි දැක්කා කියනවා සාමාන්‍යයෙන් විශාලෙට තියෙන ගල්කුලක්. ගොඩවුනා ගල්කුලට. ගොඩවෙලා මේ ගල උඩ ඉඳලා පහළ බලනකොට පහළ භූමියේ පේනවා මනුස්සයෙක් හරක් බානකුත් දාගෙන කුඹුරක බැහැලා හානවා. ඒ වෙද්දි ඇඳිරි වැටීගෙනත් ඇවිල්ලා. ඉතින් ස්වාමීන් වහන්සේලා කල්පනා කලා අප්පේ මේ මිනිස්සු ජීවිතේ ගැටගහගන්න මහන්සි වෙන විදියක් කියලා හිතලා, උන්වහන්සේලාට මහන්සියකුත් තිබුනා ගමන් මහන්සිය. සැතපුනා. සැතපිලා මේ උත්තමයො පින්වතුනි පාන්දර ජාමයේ අවදි වෙලා බලනකොට අර පුද්ගලයා ඒ විදියටම හානවා. එතකොට මේ ස්වාමීන් වහන්සේලාට හරි සංවේගයක් ඇතිවුනා මේ මනුස්සයා ඊයෙ රෑත් හෑවා, තාම හානවානෙ. ස්වාමීන් වහන්සේලා බැහැලා ගිහිල්ලා ඒ පුද්ගලයාට කතා කරන්න සූදානමින් ඉන්නවා ස්වාමීන් වහන්සේලා දැක්කහම මේ පුද්ගලයා නවත්වයි මේ වැඩේ. නමුත් මේ පුද්ගලයා ස්වාමීන් වහන්සේලා දිහා බලාගෙනම හානවා. එතකොට එක ස්වාමීන් වහන්සේ නමක් කිව්වා, පින්වත් පොඩ්ඩක් නවතින්න, අපිට චුට්ටක් කතා කරන්න. එතකොට ඔහු කියනවා ස්වාමීනී නවතින්න පුලුවන් නම් නවතින්න හැකියාවක් තියෙනවා නම් මම බොහෝ කලකට පෙර නවත්වලා කියනවා. මටත් මේ නවත්වගන්න බැරිව ඉන්නෙ කිව්වා. එතකොට ස්වාමීන් වහන්සේලාට මේක තේරුන් නෑ මොකක්ද මේ කතාව. ස්වාමීන් වහන්සේලා

කියනවා අපිට ඔබ කියන දේ තේරෙන් නෑ. එතකොට ඔහු හිනාවෙලා අහනවා ස්වාමීනී ඔබ වහන්සේලා කවුද? අපි බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයො. කොයි බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයොද? ඇයි පින්වත එහෙම අහන්නෙ, ගෞතම අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයො අපි. ඔහු කියනවා අහෝ ස්වාමීනී, ගෞතම බුදුරජාණන් වහන්සේත් ලෝකයේ පහළ වුනාද? ඒ කියන්නෙ බුද්ධාන්තරයකුත් ගෙවී ගියාද කියලා ඇහුවා. එතකොට මේ ස්වාමීන් වහන්සේලා කියනවා පින්වත ඔබ කියන කතාව හරි පුදුම එකක්. ඔබේ විස්තරය අපිට කියන්න. ස්වාමීනී මම කාශ්‍යප බුද්ධ කාලයේ මනුස්ස ලෝකෙ ඉපදිලා හිටපු කෙනෙක්. මම ගොවියෙක්. මගේ මිත්‍රයො බුදුරජාණන් වහන්සේ ගැන හරියට හිත පහදවාගෙන හිටියා. අපි දවසක් කුඹුරු කරන්න කටයුතු යොදාගෙන තියෙද්දි මං මගේ නගුලත් අරගෙන හරකාබාන් දෙකත් දක්කගෙන කුඹුරට යමින් හිටියා. යන ගමන් මගේ හිතවතෙකුගේ නිවසට ගොඩවැදිලා අද කුඹුරු කරන්න යන්නෙ නැද්ද කියලා ඇහුවා. අහනකොට ඔහු ස්වාමීනී කිව්වා, අද කාශ්‍යප බුදුරජාණන් වහන්සේ ගමට වඩිනවා, මොන කුඹුරුද. දානෙ ටිකක් පූජා කරගනින්. මම කුඹුරු යන්නෑ දන් පූජා කරනවා කිව්වා. එතකොට මට කිපුනා කිව්වා. මේ වචනෙ ඇහෙනකොට ඔහුට කේන්ති ගියා. කේන්ති ගිහිල්ලා ඔහු ඒ වෙලාවේ ඒ කේන්තියෙන් යුක්තව කිව්වා කතාවක්. අන්න හරි මං දානෙ පූජා කරන්න ගෙදරට වෙලා ඉන්නම්. බුදුහාමුදුරුවන්ට මගේ කුඹුර හාලා දෙන්න කියන්න කිව්වා. ඒ වචනෙ කිපුනු හිතින් කියලා නගුලත් අරගෙන ඔහු පිටත් වුනා. සමහර විට ඔහුට ඒක ඒ වෙලාවේ අමතක වෙන්න ඇති. යළි ඒක සිහියට එන්න නැතිව ඇති. ඒක ඔහුට අමතක වුනාට චේතනා පහළ කරලා කියන ලද වචනය කියන එක, ඒක කර්මයක් බවට පත්වුනා. ඒකෙ දුක් වූ කටුක වූ විපාක භයානක නිරයේ ඉපදිලා විඳවන්න සිද්ධ වුනා. ඒ විඳවිල්ල අවසන් වෙලා, ප්‍රේතයෙක් විදියට උපන්නා. ඒ ප්‍රේතයා ගිනිගත්ත කුඹුරක - ඒ කියන්නෙ ඒක ස්වාමීන් වහන්සේලාට පේන් නෑ - ඒ මඩ පින්වතුනි ගිනියම් වෙලා තියෙන්නෙ. ගිනියම් වූ මඩක බැහැගෙන ඒ ප්‍රේතයා එක දිගට හානවා. තාම හානවා, තාම හාන්න සිද්ධ වෙලා. අන්න ඒ නිසා බොහෝම භයානකයි, විශේෂයෙන් මේ අපිට වචනයෙන් සිද්ධ වෙන ඒවා. ඒක ගැන හොඳට තේරුම් ගන්න ඕන. දැන් මේ කතාව ඉගෙන ගන්නකොටත් තේරෙනවා පින්වතුනි යම් බුද්ධ ශාසනයක අර ගුණවත් භික්ෂුණියකට ගණිකාවාදයකින් වචනයක් පිට කලා. එතකොට බලන්න භික්ෂුණී සංඝයා අතරේ පැවිදි වෙලා පින් පුරාගන්න තිබ්බ අවස්ථාවනෙ. මේ වචනෙ නිසා

වැරදුනා. ඉතින් ඔය විදියට ඒ සංසාර ගමනේ කතාව. මේ බුද්ධ කාලයේ ඇය උදේනි නගරයේ උපන්නෙ. තරුණ වයසට එනකොට ඇය හරිම ලස්සනයි. ඇගේ නම පදුමාවතී. මේ පදුමවතී කියන තරුණිය සාමාන්‍යයෙන් අවුරුදු දහසය, දහඅට වගේ වයස එනකොට මනා අඟපසඟ. ඇය වෙනුවෙන් පුරුෂයෝ එකිනෙකා කලහ කරගන්න පටන්ගත්තා. මේ පදුමවතී කියන කුමාරිකාව තමන්ගේ කරගන්න නොයෙක් නොයෙක් තරුණයො කලහ කරගන්නවා. ඒ කලහා වලින් සමහර වෙලාවට අතපය බිඳගන්නවා, මේ වගේ ප්‍රශ්න ඇතිවුනා. රජ්ජුරුවො ළඟට මේ ඔක්කොම ප්‍රවෘත්ති එනවා. රජවරුනෙ නඩු විභාගය කරන්නෙ. රජ්ජුරුවො ළඟට මේ නඩ් විභාගෙ එනකොට රජ්ජුරුවො කල්පනා කලා මේක හරියන් නෑ, මැව තනි පුද්ගලයෙක්ට දුන්නොත් එහෙම මහා විනාශයක්. ඒ නිසා මැය නගරයේ ඉන්න ශෝභනියක් නිසා, ඇගේ රූප සෝබාව හැමෝටම විඳින්න පුලුවන් එකක් වෙන්න ඕන. කැමැති පුරුෂයෙකුට මිලක් දීලා ඇගේ රූසිරි විඳින්න අවකාශ හදන්න ඕන. ඒ උදෙසා රජ්ජුරුවො රාජ අණක්, රාජකීය පැනවීමක් කලා. පදුමවතී නගරශෝභිනිය. එහෙම නැත්නම් පදුමවතී වෛශ්‍යාව. පදුමවතී ගණිකාව. බලන්න පින්වතුනේ කර්මය. ඇයටත් හීනයක් තියෙන්න ඇති, තමන්ගේම කියලා ස්වාමිපුරුෂයෙක් එක්ක තමන් දරුවො හදාගෙන තමන්ගේම ලස්සන ජීවිතයක්. නමුත් රජ අණකින් ඇයට ගණිකාවක් වෙන්න සිද්ධ වුනා. මහා සම්භාවනීය පිරිසක්, උදේනියේ ඉන්න මහා සම්භාවනීය මිනිස්සු ඇය ගැන කතා කරන්නෙ ගණිකාවක්, වෛශ්‍යාවක් කියලා. වෛශ්‍යාවාදීන් එක වෙසඟනක් කියලා එක භික්ෂුණියකට ආමන්ත්‍රණය කරපු වචනයට කර්ම විපාකය ඈ නිරයේ විඳවලා මේ මනුස්ස ලෝකයේ ඇවිල්ලා ඈට හැමතිස්සේම අහන්න ලැබෙන වචනය ඈ ගැන ගණිකාවක්. වෙසඟනක් කියන වචනය. තමන් රැස් කරගත්ත දේකින් පින්වතුනේ තමන්ට විඳවන්න සිද්ධ වෙනවා. ඇය ඔන්න ඔය විදියට වෙසඟනක් බවට පත්වුනා. උදේනී නගරයේ පදුමවතී කියන වෙසඟන රජගහනුවර බිම්බිසාර මහරජ්ජුරුවන්ට මේ වෙසඟන ගැන අහන්න ලැබුනා. බිම්බිසාර රජ්ජුරුවො වරක් ඈව ඇසුරු කරන්න පැමිණියා. ඒ බිම්බිසාර රජු සමඟ ඇසුරේදී ඇය ගැබ්ගත්තා, ඇය පිළිසිඳගත්තා. ඇය ගැබ්ගත්ත බව දූතයෙක් අත ඇය බිම්බිසාර මහරජ්ජුරුවන්ට පණිවිඩයක් විදියට යවනවා, රජතුමනි ඔබවහන්සේ නිසා මා ගැබ්ගත්තා. එතකොට රජ්ජුරුවො ඈට ගැබ්පෙළහරක් - මේ රජවරුන්ගේ ස්වභාවය - ඒකත් රජ අණක් පින්වතුනි. ඈට ඊටපස්සෙ කුසමෝරලා දරුවා බිහිවෙනකල් වෙන

පුරුෂයො ඇසුරු කරන්න බෑ. රජ්ජුරුවො ඒ විදියට ඇගේ ගැබ මෝරන්න ඇරියා. ඉතින් නව මසක්, දසමසක් ඇවෑමෙන් ඈට ලැබුනා පුතෙක්. ඒ පුත්‍රයාට නම තිබ්බා අභය. මේ අභය කියලා කියන්නෙ පින්වතුනි මහා පින්වන්තයෙක්, පශ්චිමභවිකයෙක්. පශ්චිමභවික කියලා කියන්නෙ අවසාන ජීවිතයේ උපන්න කෙනා. ඒ කිව්වෙ මොකක්ද, ඒ පුත් කුමාරයා, ඒ අභය කියන කුමාරයා සංසාරයේ රැස් කරගත්තු පුණ්‍ය බලයෙන් මේ ජීවිතයේ ඒකාන්ත කොට නිවනේ සැනසෙන කෙනෙක්. ඉතින් එහෙම වාසනාවන්ත පුතු කුමාරයෙක් ඒ වෙසඟනගේ කුසින් බිහිවුනේ. ඔහුට දාපු නම අභය නිසා මේ පදුමවතී වෙසඟනට එදා ඉඳලා පාවිච්චියට නමක් එනවා අභය මාතා. හේතුව මේ අභය කියන කුමාරයා බිම්බිසාර රජ්ජුරුවන්ගේ පුතානෙ. රජ්ජුරුවො පදුමවතී ගණිකාවගෙන් පුංචි කාලෙම මේ පුත්‍රයාව අරගන්නවා. රජමැදුරේ රාජකීය සම්පත් මැද අභය කියන මේ කුමාරයා හැදුනා වැඩුනා. ඒ හැදිලා වැඩිලා සාමාන්‍යයෙන් තරුණ වයසට එනකොට ඔහු බොහෝම කඩවසම් තරුණයෙක්. හැබැයි රාජකීය සම්පත්තියට ඇලුන් නෑ, බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මයට ආසාවෙන් ශ්‍රවණය කලා. ඒ ශ්‍රවණය කරලා ඇතිවෙච්චි පහන් සිතින් ගෞතම ශාසනයේ පැවිදි වුනා. අභය ස්වාමීන් වහන්සේ. මේ අභය ස්වාමීන් වහන්සේ දැනගෙන හිටියා තමන්ගේ මව්තුමිය පදුමවතී කියන වෙසඟන බව. ඉතින් අභය ස්වාමීන් වහන්සේ නිතර දෙවේලේ තමන්ගේ මව්තුමියට දහම් අවවාද සිද්ධ කරන්න මව්තුමියගේ හිත සනසන්න උන්වහන්සේ අවකාශ ලැබෙන වෙලාවේ වඩිනවා. උන්වහන්සේ නොබෝ කලකින්ම උතුම් රහතන් වහන්සේ නමක් බවට පත්වුනා. දවසක් තමන්ගේ ආදර මව්තුමියට බණ පදයක් දේශනා කලා බොහොම වටින බණක්. උද්දං පාද තලා අම්ම අදෝ චෙ කේසමත්තකා පච්චවෙක්කස්සුමං කායං අසුචිං පූතිගන්ධිකං, පින්වත් අම්මෙ මේ යටිපතුලෙන් උඩත් කෙස් රොදින් යටත් අතරින් පවතින මේ කුණු වෙලා යන පිළිකුල් ශරීරය දිහා නුවණින්ම බලන්න. තමන්ගේ අම්මට ඒ රහතන් වහන්සේ අභය කියන මහරහතන් වහන්සේ මේ බණ පදය කිව්වෙ මොකද වෙසඟනක් වුනාම තමන්ගේ රූප සෝභාව ගැන උමතු වෙලානෙ ඉන්නෙ. ඇයි පුරුෂයො සල්ලි දීලා ඈව ඇසුරු කරන්න එනකොට ඈ තමන්ගේ රූපෙන් මත් වෙනවා. ඈ කොණ්ඩේ මල් ගවස ගවස සුවඳවත් කරගන්නවා. සරසනවා. සාමාන්‍ය ස්ත්‍රියකට වඩා ගොඩාක් රූපය ගැන හැඟීමක්, රූපය ගැන බලවත් හැඟීමක් ඇයට තිබුනා. ඇය ඒ රූප මදයෙන්ම මත් වෙවී ඉන්න හැටි මේ උතුම් රහතන් වහන්සේ දකින්න ඇති.

ඉතින් ඒ නිසා තමන්ගේ අම්මට කියනවා අම්මෙ මේ යටිපතුලෙන් උඩටත්, කෙස් රොදින් යටටත් පවතින කුණුවෙලා යන පිළිකුල් සහගත ශරීරය දිහා නුවණින් බලන්න. මිනිස්සු මේ ශරීරය දිහා බලන්නෙ පින්වතුනි නුවණින් නෙවෙයිනෙ. තමන්ගෙ ශරීරය දිහා බලන්නෙත් නුවණින් නෙවෙයි, අන් අයගේ ශරීර දිහා බලන්නෙත් නුවණින් නෙවෙයි, මුලාවෙලානෙ. තමන්ගේ ශරීරය ගැනත් බලනවා ෂා හරි ලස්සනයි මං, මගේ ඇස් මෙහෙමයි, මගේ අතපය මෙහෙමයි කියලා තමන්ගේ ශරීරය ගැනත් මුලාවෙන් බලනවා. කණ්ණාඩිය ළඟට ගිහිල්ලා ඒ මේ පැත්තට හැරි හැරී තමන් දිහා බලන්නැද්ද. එතකොට තමන්ගේ ශරීරය දිහාත් සාමාන්‍යයෙන් මුලාවෙන් බලන්නෙ. අන් අයගේ ශරීර ගත්තත්, ෂා අරයා හරි ලස්සනයි, එයාගෙ කොණ්ඩෙ හරි ලස්සනයි. අපි එහෙම අන් අයගේ ශරීර දිහා බලන්නෙත් මුලාවට පත්වෙලා. තමන්ගෙ ශරීරය සම්බන්ධයෙනුත් තියෙන්නෙ මුලාවක්, අන් අයගේ ශරීර සම්බන්ධයෙන් තියෙන්නෙත් මුලාවක්. දෙතැනම මුලාව. ඉතින් අභය මහරහතන් වහන්සේ අම්මට කියාදුන්නා, අම්මෙ මේ ශරීරයේ ඇත්ත දිහා හොඳ නුවණින් බලන්න. ඉතින් එතකොට මේ පදුමවතී කියන මේ වෙසඟන ඒකට දක්ෂ වුනා. ඈ සමහර විට පස්සෙ හොඳට බුදුගුණ අහන්නත් ඇති. ඒ බණ අහලා ඈ පිළිකුල් සහගත විදියට මේ ශරීරයේ යථාර්තය විමසන්න ඈ පටන් ගත්තා. මේ ශරීරය සම්බන්ධයෙන් ඈ හොඳට පුරුදු පුහුණු කලා පිළිකුල් භාවනාව. ඊළඟට මේ ශරීරයේ ඇත්ත ඈ සිහිකරන්න පටන් ගත්තා. මේ ශරීරයේ ඇත්ත සිහිකිරීමමනෙ පින්වතුනි මරණයෙන් පස්සෙ ශරීරයට වෙන දේ හිතීම. ඒකට කියනවා නවසීවත්තික. අපි දැන් මේ පරිහරණය කර කර පවත්වන මේ ශරීරය යම් දවසක අපි මියගියාට පස්සෙ කවුරුත් ළංවෙන්න අකැමැති කුණු ගඳ ගහන පිළිකුල් සහගත එකක් බවට පත්වෙනවානෙ. ඉතින් ඇය මේවා සිහි කලා. මේවා සිහි කරනකොට සිහි කරනකොට ඇට සංවේගය උපන්නා, ධර්මයට ආසාව ඇතිවුනා, රජ්ජුරුවන්ගෙ රාජකීය අවසර මැද ඈ පැවිදිවුනා. පැවිදි වෙලා නොබෝ කලකින්ම අර්හත් උත්තමාවියක් බවට පත්වෙලා ආන්න ඒ අර්හත් උත්තමාවිය පිරිනිවෙනා මොහොතේ ඈ පිරිනිවන් වඩිනා මොහොතේ ඈ මෙන්න මේ ගාථා වදාළා. ඒවං විහරමානාය සබ්බ රාගො සමූහතො පරිලාහො සමුච්ඡින්නෙ සීතිභූතං හි නිබුතා, තම පුතා වූ අභය තෙරුන්ගේ ඒ අවවාදය අනුව මං ඒ විදියටම ජීවිතය දිහා බැලුවා. හැම රාගයක්ම නැති කරලා දැම්මා. කෙලෙස් දාහය මුලින්ම නැති කරලා දැම්මා. දැන් මං සිහිල් වුන කෙනෙක්, නිවිලා ගිය කෙනෙක්. රාගයම අවුස්ස අවුස්ස හිටපු, තමන්ගේ රාගයත්

අවුස්සගෙන අනිත් අයගේ රාගයත් අවුස්ස අවුස්ස හිටපු ඇය ඔන්න ඔය විදියට අවසානෙ නිවනින් සැනසී ගියා. බුද්ධ ශාසනය කියන්නෙ ආශ්චර්යමත් එකක්. බලන්න තමන්ගේම පුතා නිසා, තමන් තමන්ගේ කුසින් වැදූ දරුවා නිසා ඇයට පිහිට හැදිච්ච විදිය. ඒ තමයි අභය මාතා කියන අර්හත් උත්තමාවියගේ, රහත් තෙරණියගේ සිදුවීම. ඊළඟට අපි ඉගෙන ගන්නේ අභයා කියන රහත් තෙරණියගේ සිදුවීම. දැන් මේ අභයා කියන රහත් තෙරණියත්, අභය මාතා කියන එහෙම නැත්නම් පදුමවතී කියන ඒ ස්ත්‍රියට සම්බන්ධයි. ඒ සම්බන්ධ වුනේ කොහොමද, ඒක පදුමවතී කියන උදේනි නගරයේ නගරශෝභිනියගේ සමීපතම හිතවතිය බවට පත්වුනේ මේ අභයා කියන කාන්තාව. ඇයත් බුද්ධ ශාසන මුල් කරගෙන අතීතයේ පින් පුරාගත්ත කෙනෙක්. සිඛී බුදුරජාණන් වහන්සේගේ යුගයේ මැය රජ කුලයක එක්තරා රජෙකුගේ අගබිසවක්. ඇ දිනපතාම තමන්ගේ ශරීරයේ නිල් මහනෙල් මල් ගවසාගෙන සිවුර සරසන කෙනෙක්. ඉතින් රජ්ජුරුවො දිනපතාම වගේ ඇයට මේ ශරීරය සරසන්න නිල් මහනෙල් මල් එවනවා. ඔය අතරෙ ඇයට බුදු බණ අහන්න ලැබුනා. අපේ සිඛී අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ඒ කාලෙ ලෝ සතුන් කෙරෙහි මහා කරුණාවෙන් ශ්‍රී සද්ධර්මය දේශනා කරනකොට ඇට සිඛී බුදුරජාණන් වහන්සේගේ ගුණ අහන්න ලැබුනා. මේ බුදුරජාණන් වහන්සේ සියලු කෙලෙස් නැසූ රහතන් වහන්සේ නමක්ය, ගුරු උපදේශ රහිතව සියල්ල අවබෝධ වූ සම්මා සම්බුද්ධ උත්තමයෙක්ය, අවබෝධයට අනුවම ජීවිතය ගත කරන විජ්ජාචරණ සම්පන්න ගුණයෙන් යුතු උතුමෙක්ය, සුන්දර වූ නිවනට වැඩම කලාය, ලෝකෙම අවබෝධ කරගෙන ලෝකයෙන් නිදහස් වෙච්ච උත්තමයෙක්ය, මේ පුරුෂයන් දමනය කිරීමෙහි ලා අතිශයින්ම ශ්‍රේෂ්ට උතුමෙක්ය, දෙව්මිනිසුන්ගේ ශාස්තෘන් වහන්සේය, අවබෝධ කරපු ධර්මය මැනැවින් දේශනා කරන උතුම් ගුරුවරයාය, සියලු ගුණ දරන්න තරම් මහා භාග්‍ය සම්පන්න උත්තමයාණෝය කියලා සිඛී බුදුරජාණන් වහන්සේ ගැන ඇයට අහන්න ලැබුනා. ඇය බුදු ගුණ සිහි කරද්දි සිහි කරද්දි පින්වතුනේ ඇයට බලවත් චිත්ත ප්‍රසාදයක් උපන්නා. ඇය කල්පනා කලා කියනවා මං මගේ හිසේ මල් පළඳනවාට වඩා මේ නාකිවෙලා යන ශරීරය සුවඳවත් කරන්න මල් ගවසනවාට වඩා මේ මල් සුදුසු බුදුරජාණන් වහන්සේටයි. ඒ භාග්‍යවන්ත වූ අප්‍රමාණ ගුණ ඇති බුදුරජාණන් වහන්සේට මං මල් පූජා කරනවා කියන හිත ඇට උපන්නා. ඇ රජ්ජුරුවන්ගෙන් ලැබෙන සුවඳ මල් ඇගේ ශරීරයේ ගවසන එක එදායින් පස්සෙ නැවැත්තුවා. ඒ සියලු මල් ඇය බුදුරජාණන් වහන්සේට පූජා

කලා. ඇත්තෙන්ම බලන්න පින්වතුනි, අපි දැන් මේ මනුස්ස ජීවිතේ ඇතුලේ අපිට බුදුරජාණන් වහන්සේව මුණගැහිච්චි නිසා භාග්‍යවතුන් වහන්සේගේ සරණ අපිට ලබන්න ලැබිච්ච නිසා පරවෙලා යන මලකට පුලුවන් අපිට සුගති සැප උපද්දලා දෙන්න. බුදු කෙනෙකුගේ ශාසනයක් මුණගැහිච්ච නිසා. සාමාන්‍යයෙන් මේ ලෝකයේ හැමතැනම මල් පිපෙනවානෙ. ඒ පිපෙන මල් ඔහේ පරවෙලා යනවා. හැබැයි ශ්‍රද්ධාවන්තයෙක් සිටිනා ඉසව්වක මල් පිපෙනවා නම් ඒ පිපෙන මලකට පුලුවන් පරවෙන්න පෙර ඒ ශ්‍රද්ධාවන්තයාගේ ජීවිතය සුගතිගාමී වෙන ඒ ශ්‍රද්ධාවන්තයාගේ ජීවිතයේ බොහෝ සැපවත් වෙන පින් උපද්දවලා දෙන්න. මලක් පරවෙලා යනකොට පිනක් උපද්දලා දීලා පරවෙනවා නම් ඒ තෙරුවන් සරණ ගියපු ශ්‍රාවකයෙකුට ලැබෙන වාසනාව, බුදුරජාණන් වහන්සේට මල් පූජා කරනකොට ඒ පූජා කරන මල් භාග්‍යවතුන් වහන්සේට පුද පිණිස තැන්පත් කරනකොට බොහෝ කල් යහපත සළසන පින් පිරෙනවා. ඉතින් බලන්න මේ කාන්තාව කල්පනා කරපු විදිය ඒ කාලෙ. ඒ රජ බිසව තමන්ගේ සැරසිල්ල අත්හැරියා. තමන්ට සැරසෙන්න රජ්ජුරුවො එවන මල් ටික ඈ බුදුරජාණන් වහන්සේට පූජා කලා. ඔය විදියට සිබී බුදුරජාණන් වහන්සේට මල් පූජා කරගෙන ගොඩාක් පින් රැස් කරගත්තා. ඉතින් මේ ජීවිතයේ ඈත් උපන්නේ උදේනියේමයි. ඇගේ නම අභයා. සාමාන්‍යයෙන් තරුණ වයසට එනකොටම අවුරුදු දහසය, දාහත වගේ වයසේදීම පදුමවතී එහෙම නැත්නම් අභයමාතා නගරසෝභිනිය පත්වෙන්න පෙරම ඈ ගොඩාක් හිතමිත්‍රයි. ඉතින් පස්සෙ ඈ නගරසෝභිනිය වුනාට පස්සෙ ඇය බොහෝම ධනවත් වුනා. නගරසෝභනියෝ කියලා කියන්නෙ හරි ධනවත් අය. දැන් අපි ඉගෙනගත්තනෙ අඩ්ඪකාසී නගරසෝභනිය ගොඩාක් ධනවත්. කාසි ජනපදයේ යම් බදු වැටුපක් ලබනවාද ඒ වගේ වැටුපක් ඇයට ලැබෙනවා. ඒ වගේ මහා ධනවත්. ඒ ධනවත් වෙන්න හේතුව රජ්ජුරුවො විසින් රජ අණකින් ඇට මිලක් නියම කරනවා. ඒ මිල ගෙවලා තමයි පුරුෂයො ඈව ඇසුරු කරන්න ඕන. එතකොට පුරුෂයෙක් ඇසුරු කරන වාරයක් වාරයක් පාසා ඇයට ධනය උපදිනවා. ඉතින් පදුමවතී වෙසඟනක් බවට පත්වෙලා ඇයට ඒ උරුමය ලැබුනත් අර මිත්‍රභාවය සිඳගත්තෙ නෑ. මේ අභයා නිතර පදුමවතීව හම්බෙලා කතා බහ කරන හිතමිත්‍රව හිටපු කෙනෙක්. පස්සෙ කාලයේ ඇට සිදුවෙච්චි ජීවිත පරිවර්තනයටත් ඒ නිසා අභයා සම්බන්ධ වුනා. අභය මාතා කියන පුතාගෙන් බණ පද අහලා ඒ බණ පද විමසනකොට, ඒ බණ පද ගැන කල්පනා කරනකොට ළඟම ඉන්න මිතුරියට ඒ ගැන කියන් නැද්ද, ළඟම ඉන්න මිතුරියත්

එක්ක මේක කියන්න පටන් ගත්තා. ඒ කියනකොට කියනකොට අභයාටත් බණ අහන්න ලැබුනා. අභයාත් මේ බණින් හරියට සතුටු වුනා. ඉතින් සතුටු වෙන්නෙ ඈත් සංසාරේ පින් කරගත්ත කෙනෙක්නෙ. පින තිබ්බ කෙනෙක්නෙ. පින් තියෙන අයට බුදු බණ අහන්න ලැබෙනකොට සත්පුරුෂ බණ පද අහන්න ලැබෙද්දි පින තියෙන කෙනාට පැහැදීම ඇතිවෙනවා. ඉතින් එහෙම නිසා පදුමවතී මේ බණ පද කියලා දෙනකොට අභයාට හරි සතුටු හිතුනා. පදුමවතිය ගිහි ජීවිතේ අත්හැරලා පැවිදි වුනා කිව්වහම මගේ මිතුරියත් පැවිදි වුනා නම් මාත් පැවිදි වෙනවා කියන හිත ඈට උපන්නා. ඉතින් එහෙම තමයි ඒ පැවිද්ද සිද්ධ වුනේ. ඇයත් පැවිදි වුනා. පැවිදි වෙලා පදුමවතී කියන භික්ෂුණිය ළඟ එහෙම නැත්නම් අභයමාතා භික්ෂුණිය - ඈ භික්ෂුණිය විදියට නම් ප්‍රසිද්ධ වුනේම අභය මාතා කියලා. අභය මාතා කියන භික්ෂුණිය ළඟ මේ අභයා කියන භික්ෂුණියත් පැවිදි වෙලා ධර්මය ඉගෙන ගෙන වීර්යයෙන් ඒ ධර්මය පුරුදු කරන කෙනෙක් බවට පත්වුනා. ඒ වීර්යයෙන් එසේ ධර්මය පුරුදු වෙද්දි ඈ නිතර පුරුදු කරපු භාවනාව අසුභ භාවනාව. ඒ කාලෙ භික්ෂු භික්ෂුණීන් පින්වතුනේ සාමාන්‍යයෙන් කාලෙකට සැරයක් යනවා කියනවා තමන්ගේ අර අසුභ භාවනාවේ දියුණුව පිණිස අසුභ කමටහනක් අරගන්න. ඒ කමටහන කියලා කියන්නෙ අසුභ සටහන්. අසුභ සටහනක් අරගන්න සොහොනට යනවා කියනවා. ඒ සොහොනට යන්නෙ සොහොනේ, ඒ කාලෙ සොහොන් වල තිබුනානෙ අර මෘත ශරීර විසික් කරනවානෙ. එතකොට මෘත ශරීර වලට වෙලා තියෙන දේවල් එතෙන්ට යන කෙනෙකුට පේනවා. මේ මල් ගවසාගෙන සරසාගෙන හිටපු ශරීර අහවලාට වඩා මං හරී හැඩයි කිය කියා හිටපු අය එහෙම අය මැරිලා. මේ සත්තුන්ට ආහාරයක් වෙලා, කුණු වෙලා, පණුවො වැහිලා, මේ ශරීර විනාශ වෙලා යන හැටි, මේ ශරීරයේ තියෙන හැබෑ ස්වභාවය යථාර්තය සොහොනෙ පේනවා. ඒ නිසා එකල භික්ෂු භික්ෂුණීන් ඇතැම් භික්ෂූන් හිටියා, භික්ෂුණීන් හිටියා, සොහොනම ඇසුරු කරගෙන හිටපු අය. සොහොනේම කෙළවරක තමයි බණ භාවනා කරන් හිටියෙ. ඉතින් මේ අභයා කියන භික්ෂුණියත් ඔය සොහොනට යන්නෙ එදා අසුභ සටහනක් අරගන්න අදහසින්. අසුභ සටහනක් අරගන්න අදහසින් ඈ ඒ විදියට යනකොට බුදුරජාණන් වහන්සේගේ මහා කරුණා නේත්‍රයට ඈව හසුවුනා. භාග්‍යවතුන් වහන්සේ ඈ වෙනුවෙන් ඍද්ධියක් කලා. ඒ ඍද්ධිය මෙහෙම එකක්. ඈ සොහොනට යද්දි ඇයට පේනවා බොහෝම ප්‍රසන්න එහෙම නැත්නම් තාම අඩුගානෙ අව පැහැයටවත් හැරිච්චි නැති මෘථ ශරීරයක් මේ සොහොනෙ දාලා

තියෙනවා. හරියට ඒ වෙලාවෙම කවුරුහරි ගෙනල්ලා තියලා ගියා වගේ මෘත ශරීරයක් මෙහි තියෙනවා. ඉතින් ඈට අර කුණුවෙච්චි මළසිරුරු ගැන නෙවෙයි අවධානය යොමුවුනේ. ඈට අවධානයක් යොමු වුනා මේ තමන් ඉස්සරහ තියෙන තමන් සමීපයේම තියෙන තාම අලුත්පිට තියෙන මළකුණට. සමහර වෙලාවට බුද්ධානුභාවයෙන්ම වෙන්න පුලුවන්, මොකද බුදුරජාණන් වහන්සේ ඇය වෙනුවෙන්මනෙ මේක මැව්වා, මෘත ශරීරයක් ශාස්තෲන් වහන්සේ මවලා තියෙනවා. මේ මැව්ව මෘත ශරීරයට අභයා කියන මේ භික්ෂුණියගේ අවධානය යොමුවුනා. ඈ දෑස දල්වාගෙන මේ මෘත ශරීරය දිහාම බලාගෙන ඉන්නවා. ඒ මෘත ශරීරය දෙසම බලාගෙන ඉද්දි ඒ සාමාන්‍යයෙන් මළසිරුරකට සිද්ධ වෙන, කාලයක් ගිහිල්ලා සිද්ධ වෙන දේ ඒ කියන්නෙ මළසිරුරක් දවසක් දෙකක් තුනක් යනකොට ඉදිමෙනවා, නිල්වෙනවා, සැරව ගලන්න පටන් ගන්නවා. ඒ දේ වේගයෙන් වෙන්න පටන් ගත්තා. දැන් එයාට පේනවා අර රූප සෝභාව ඔක්කොම නැතිව යනවා. මේක ඉදිමෙනවා. නවද්වාරයෙන් අශුචි ගලන්න පටන් ගන්නවා. තැනින් තැන හම විදගෙන පණුවො එළියට පැමිණිලා මේ ශරීරය පණුවො කන්න පටන් ගන්නවා. ඈට එකින් එක, එකින් එක පේන්න පටන් ගත්තා. ඒ පෙනෙද්දි ඈට සිහිය පිහිටියා. මේකනෙ ඇත්ත. මේකනෙ මේ සිරුරේ ඇත්ත. මම කියලා අල්ලගත්ත මේ සිරුරටත් මේක නේද උරුමය. මේ මගේ ඇඟ කියලා අල්ලගත්ත එකටත් මේක නේද උරුමය. මට ඕන විදියට තියාගන්න පුලුවන් කියලා හිත හිතා ඉන්න මේ කයට මේක නේද උරුමය. ඈට එහෙම හිතුනා. සිහිය උපන්නා. සිහිනුවණ උපදිනකොටම ඈට ඇහෙනවා මහා කාරුණික බුදුරජාණන් වහන්සේගේ හඬ. අභයේ විදුරො කායෙ යත්ත සත්තා පුතගජ්ජනං පින්වත් අභයාවෙනි, පෘථග්ජන උදවිය ඇලී වාසය කරන මේ ශරීරය බිඳිලා යන එකක්. පෘථග්ජන උදවිය ඇලී වාසය කරන මේ සිරුර බිඳිලා යන එකක් කියන කතාව ශාස්තෲන් වහන්සේගේ හඬින් ඒ අර්ථය බුදුරජාණන් වහන්සේගේ හඬින් ඈට ඇහෙනවා. ඒ කාලෙ පින් තිබ්බ අයට බුදුරජාණන් වහන්සේ මහා කරුණාවෙන් ඔය උපකාරය කලා. බුදුරජාණන් වහන්සේ පින් තියෙන කෙනා වෙනුවෙන් තථාගතයන් වහන්සේගේ ස්වරය ඇහෙන්න සළස්වනවා. ඒ ස්වරය ඇහෙනකොටම පින්වතුනේ හැඟීමක් ඇතිවෙනවා, බුදුරජාණන් වහන්සේ මාව දකිනවා කියන හැඟීම. අන්න අභයා භික්ෂුණියටත් එහෙම ඇතිවුනා. ඈ හොඳට හිතට ගත්තා මේ අදහස. මේ පෘථග්ජන සත්වයා - පෘථග්ජන කියලා කිව්වෙ ධර්මය නොදන්න සත්වයා, ඇලී වාසය කරන මේ සිරුර බිඳී යන එකක්. මේක හැමදා පවතින එකක් නෙවෙයි. මගේ ඇස් දෙක

ලස්සන ඇස් දෙකක් කියලා ඇස් දෙක ගැන වසඟ වෙලා ඉන්න කෙනාට යම් දවසක් එනවා ඒ ඇස් දෙක නොපෙනී ගිහින් අහිමි වෙන. මගේ ඇඟ හරීම හැඩයි කියලා හිතන් ඉන්න කෙනාට ඒ හැඩයි කියලා හිතාගෙන ඉන්න ශරීරය අවලස්සන වෙලා යන විරූපී වෙලා යන, ඒ ශරීරය වැහැරී යන දවසක් පැමිණෙනවා. ඉතින් මේ කාරණය ඈ හොඳට කල්පනා කරන්න පටන් ගත්තා. ඒකට කියනවා යෝනිසෝමනසිකාරය, නුවණින් විමසීම. ඈ නුවණින් විමසන්න පටන් ගත්තා. ඒ නුවණින් විමසීම සාර්ථක වුනා. ඇය ධර්මය අවබෝධ කලා. ඉතින් ඈ අවබෝධය ගැන මෙන්න මෙහෙමයි කියන්නෙ. මම මේ කාරණය අවබෝධ කරගෙන ඉතා හොඳ සිහියෙන්ම කිසි බලාපොරොත්තුවක් නැතිව හැමදේම අත්හැරලා දානවා. ඒ අදහසින් ඈ සියල්ල අත්හැරියා. සියලු කෙලෙස් නසා අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. ඒ අර්හත් උත්තමාවියත් පිරිනිවෙනා මොහොතේ මෙන්න මේ ගාථාව වදාළා. බහු හේ දුක්ඛ ධම්මෙහි අප්පමාද රතාය මේ තණ්හක්කයො අනුප්පත්තො කතං බුද්ධාන සාසනං බොහෝ දුක් කම්කටොළු ඇති මේ ජීවිතය තුළ මං ඇලුනේ ධර්මයේ අප්‍රමාදී වීමටයි. හොඳට මතක තියාගන්න පින්වතුනි, බොහෝ දුක් කම්කටොළු ඇති මේ ජීවිතය තුළ ජීවිත කතාව කියලා කියන්නෙ දුක් කම්කටොළු ගොඩාක් එක්ක යන්න තියෙන එකක්. විශේෂයෙන් මේ කාන්තාවන්ගේ ජීවිතය ගැනනෙ මේ ඉගෙන ගන්නෙ. කාන්තාවන් අතර පින් තිබ්බ කාන්තාවො අර්හත් තෙරණියො. කාන්තාවන්ගේ ජීවිතය ගත්තොත් කාන්තාවන්ට කම්කටොළු ගොඩාක් තියෙනවා. ඊළඟට ඒ ස්ත්‍රීන් කම්කටොළු ඉස්සරහ ගොඩාක් පීඩාවට පත්වෙනවා. ඒ කරදරය යළි යළි සිහි කර කර හූල්ලන ස්වභාවය, සුසුම් හෙළන ස්වභාවය ස්ත්‍රීන්ට තියෙනවා. ඒ නිසා මේ පණිවිඩය අපි ගන්න ඕන එකක්. ජීවිතයේ බොහෝ දුක් කම්කටොලු තියෙන්න පුලුවන්. හැබැයි ඒ දුක් කම්කටොළු මැද අපි ඇලෙන්න ඕන අප්‍රමාදීව ධර්මයේ හැසිරීමටයි. හේතුව මේ දුක් කම්කටොළු විසඳලා විසඳලා ඉවර කරන්න බෑ, සසර දුක උරුම කරගෙන යන ගමනක්. දුක උරුම කරගෙන යන ගමනේ දුකින් නිදහස් වෙනවා ඇරෙන්න මේ දුක් ඔක්කොම නැති කරගෙන සැපවත් වූ සසරක් හදාගන්නවා කියලා කතාවක් නෑ. දුක උරුම වෙච්චි සසරින් නිදහස් වීම තමයි සැප. දුක උරුම වූ සසරින් නිදහස් වෙන්න නම් අප්‍රමාදීව ධර්මයේමයි හැසිරෙන්න ඕන. ඉතින් අප්‍රමාදීව ධර්මයේ හැසිරෙද්දි මගේ තණ්හාව නැති වී ගියා. මං නිවනට පත්වුනා. බුද්ධ ශාසනය සම්පූර්ණ කරගත්තා කියලා ඒ අර්හත් උත්තමාවිය ගාථා වදාලේ. අභයමාතා අර්හත් තෙරණිය, අභයා

අර්හත් තෙරණියය ඔය විදියට බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ නිවනින් සැනසුනා. ඒ අර්හත් තෙරණිවරු, ඒ උතුම් රහතන් වහන්සේලා සැනසුන අමා මහ නිවනේ අපටත් සැනසෙන්න ලැබේවා, සාදු සාදු සාදු!!!

අප විසින් රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයෝ සියලු දෙවියෝ සතුටින් අනුමෝදන් වෙත්වා. සක්දෙවිඳු සතරවරම් දෙවිවරු, සෙන්පති දෙවිවරු ප්‍රධාන සියලු දෙවියෝ පින් අනුමෝදන්ව දිව්‍ය සැපයෙන් වැඩෙත්වා, දෙවියන්ගේ ආශිර්වාද රැකවරණ අපි හැමදෙනාට දෙවියෝ සළසත්වා, දෙවියෝ ද අමා මහ නිවනින් සැනසෙත්වා. සාදු සාදු සාදු!!! මාගේ ගුරු දේවෝත්තම අප හැමදෙනාගේම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ සියලු පින් අනුමෝන් වෙත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වෙත්වා, නිරෝගී වෙත්වා, දීර්ඝායුෂ ලබත්වා, මේ ගෞතම ශාසනය තුළ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරගන්න වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් ශ්‍රද්ධා මාධ්‍ය ජාලයේ ගරු අනුශාසක අපගේ පින්වත් අලදෙණියේ සුබෝධි ස්වාමීන් වහන්සේට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. මේ ශ්‍රද්ධා මාධය ජාලයේ කටයුතු වෙනුවෙන් නිරන්තරයෙන් අවවාද අනුශාසනා සිදු කරන උතුම් මහසඟරුවනටත් ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සියලු දෙනාටත් පින් අනුමෝදන් වෙත්වා. ඒ සියලුදෙනාට ගෞතම ශාසනයේ ධර්මාවබෝධ කරන්නට වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අද ධර්ම දානය සිදු කරන ඒ පින්වතුන්ලාගේ ප්‍රධාන අරමුණ ලෙස සටහන් කොට තිබෙන පරිදි 2010 ජූනි මාසෙ 08 වෙනි දින මියපරලොව යන්න යෙදුනා වූ විශ්‍රාමලත් විදුහල්පති පින්වත් කේ.ඒ. ප්‍රේමරත්න මහතාට මේ සියලු පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. අද ධර්ම දානය සිදු කරන ඒ පින්වත් කුමාරිහාමි මහත්මිය ඇතුළු පවුලේ හැමදෙනාගේ නමින් මියපරලොව යන්න යෙදුනාවූ සියලු ඥාතීන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. මියගිය ඥාතීන්ට පින් අනුමෝදන්ව පරලෝ වශයෙන් සැපයටම පත්වෙත්වා. අපගේ ඥාතීන් මේ දුක් සහිත වූ සංසාර ගමනින් ඉතා ඉක්මණින් නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදන් කරන්න. අද ධර්මදානය සිදු කරන පින්වත් කුමාරිහාමී මැණියන් ප්‍රධාන ඒ පින්වත් පිරිස බලාපොරොත්තු වෙන ආකාරයෙන්ම මේ පිනේ අනුහසින් කොරෝනා වෛරසයෙන් රෝගාතුරව සිටින ලක්වාසී ලෝවාසී හැමදෙනාට ඉතා

ඉක්මණින් නිදුක් නිරෝගී සුව ලැබේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. ධර්ම දානය සිදු කරන නො.39 වී, පන්වැව, දකුණු කැබිල්ලවෙල, බණ්ඩාරවෙල යන ලිපිනයේ පදිංචි පින්වත් ආර්.එම්. කුමාරිහාමි මහත්මිය ඇතුලු ඒ පවුලේ දූදරුවන් ඥාති හිතමිත්‍රාදීන් සෑම සියලු දෙනාට මේ සියලු පුණ්‍ය ධර්මයෝ එක ලෙසම අනුමෝදන් වෙත්වා. ඒ අයගේ රැකී රක්ෂා ආදී ජීවිතයේ සියලු කටයුතු සර්වප්‍රකාරයෙන් සාර්ථක වෙත්වා. ඒ වගේම පවුලේ අධ්‍යාපනය ලබන මුණුපුරු මිණිබිරියන් සියලු දෙනාට මේ පින්වල ආශිර්වාදයෙන් අධ්‍යාපන කටයුතු සාර්ථක කරගන්න, ජීවිතේ ජයගන්න වාසනාව ලැබෙත්වා. ජීවිතේට යහපත සළසන සත්පුරුෂ ඇසුර නිරන්තරයෙන් හැමදෙනාගේ ජීවිතයට ලැබෙත්වා. ධර්ම දානය සිදු කරන පින්වතුන්ලාටත් සුපින්වත් ඔබ සෑම සියලුදෙනාටත් ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත් සුවසේ පින් පුරාගෙන සුවසේ ධර්මයේ හැසිරිලා චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්න වාසනාව ලැබෙත්වා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=lppDSrcXzP0

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව සඳහා විකාශන දායකත්වයන් එකතු කරන්නෙ අද දවසේ දාහතර වන උපන්දිනය යෙදුනු පින්වත් ඔකිත නුරාන් සෙනෙවිරත්න පුතාට, සෙත් ප්‍රාර්ථනා කරන

අදහසින් ඉතාලියේ මිලානෝ නගරයේ වෙසෙන පින්වත් චමල් සෙනෙවිරත්න මහතා, දිල්රුක්ෂි කපුකොටුව මහත්මිය, ලෙත්නුලී කියාරා සෙනෙවිරත්න දියණිය කියන මේ පින්වත් පිරිස විසින්, අද ඒ උපන්දිනය සමරන පුතාට සෙත් ප්‍රාර්ථනා කරන අදහසිනුයි මේ උතුම් ධර්මදේශනාවේ දායකත්වය දරලා ධර්මදානමය පින්කම සිද්ධ කරන්නෙ. ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු ගැනයි අපි ඉගෙන ගන්නෙ. අද දවසේ සාමා නමින් යුතු තෙරණින් වහන්සේලා දෙනමකගේ සිදුවීම. ඒ තෙරණින් වහන්සේලා දෙනමගේම නම සාමා. සාමා කියන නමින්ම ඒ උත්තමාවියො අර්හත්වයට පත්වුනා. ඒ අර්හත් උත්තමාවියන් ගැනයි අද මේ ධර්ම දේශනාවේදී අපි ඉගෙන ගන්නෙ. ඒ ධර්ම දේශනාවේදී අපිට කතා කළ යුතුම දෙයක් වෙනවා සාමාවතී සහ මාගන්ධියාගේ සිද්ධිය. හේතුව මේ සාමා නමින් අර්හත්වයට පත්වෙච්චි මේ උත්තමාවියො දෙනමම සාමාවතී කියන බිසවුන් වහන්සේව හරි සමීපයෙන් ඇසුරු කරපු අය. මං හිතනවා පින්වතුන්ලා අහලා ඇති මේ සාමාවතියගේ සහ මාගන්ධියාගේ සිද්ධිය. සාමාවතී කියලා කියන්නෙ බුදුරජාණන් වහන්සේ කෙරෙහි බලවත් ප්‍රසාදයක් තිබුනු තෙරුවන් සරණ ගිය උපාසිකාවක්. බුදුරජාණන් වහන්සේ ගැන බලවත් ප්‍රසාදයක් සාමාවතිය තුළ තිබුනා. ඇය හොඳට තෙරුවන් සරණේ පිහිටා පින් පුරාගෙන ධර්මය ශ්‍රවණය කරමින් හිටපු උදේනි කියන රජ්ජුරුවන්ගේ බිසවක්. එතකොට ඇය මේ විදියට පින් පුරාගෙන ඉද්දි ඇගේ මේ කතාවට මාගන්ධියා කියන බෙහොම බිහිසුණු චරිතය එකතු වෙනවා. මේ මාගන්ධියාව එකතුවෙන්න සිද්ධ වෙච්චි සිදුවීම මෙහෙම එකක්. මාගන්ධියා කියලා කියන්නෙ බොහොම රූප සෝභාව ඇති ස්ත්‍රියාවක්. ඇගේ රූපශ්‍රීයට ඈත් වසඟ වෙලා හිටියා. ඇගේ දෙමව්පියොත් වසඟ වෙලා හිටියා. ඇ බොහොම ධනවත් කුලවත් කාන්තාවක්. ඉතින් ඒ ධනය, කුල බලය නිසා මාගන්ධියාවගේ තාත්තා, මාගන්ධියාගේ තාත්තාගේ නම මාගන්ධිය බ්‍රාහ්මණ, මාගන්ධියාගේ මව්තුමියටත් කිව්වෙ මාගන්ධිය බැමිණි - මේ මාගන්ධිය බමුණාත් මාගන්ධිය බැමිණියත් තමන්ගේ දුව වන මාගන්ධියා ගැන හරි ආඩම්බරෙන් හිටියේ ඇගේ රූපය නිසා. එතකොට මාගන්ධිය බමුණා කතා කලා මං මගේ දූව දීග තුලා දෙනකොට මට ධනවත් පවුලකට දෙන්න ඕන කියලා එහෙම ප්‍රශ්නයක් නෑ, මොකද මගේ දූට හොඳට ධනය තියෙනවා. කුලවත් පැලැන්තියකට දෙන්න ඕන කියලා කතාවකුත් මට ඇත්තේ නැහැ. හැබැයි මගේ දුවව මම දීග දෙන්න ඕන රූපෙට පැහෙන කෙනෙකුට. මගේ දුවගේ රූප සෝභාවට පැහෙන පුරුෂයෙකුටයි මම දුවව දීග

දෙන්නේ කියලා දවසක් මාගන්ධියාට කිව්වා, මාගන්ධියාටත් හරී සතුටුයි, තමන්ගේ රූපෙට පෑහෙන තරුණයෙක්, තමන්ගේ ස්වාමිපුරුෂයා විදියට හොඳ රූපවත් තරුණයෙක් හිටියා නම්, ආසාවක් තිබුනා. ඉතින් ඔහොම ඉද්දි තමයි මාගන්ධිය බමුණාට දවසක් අපගේ භාග්‍යවතුන් වහන්සේව දකින්න ලැබුනේ. බුදුරජාණන් වහන්සේ කියලා කියන්නෙ පින්වතුනේ දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් සෝබමාන උත්තමයන් වහන්සේනෙ. මේ බුදුරජාණන් වහන්සේව දැක්ක ගමන්, සාමාන්‍යයෙන් කෙනෙකුට භාග්‍යවතුන් වහන්සේගේ බාහිර පෙනුම දැක්කහම, ශාස්තෘන් වහන්සේව දැක්කහම සෑදැහැ සිතටයි හිත පහදින්නෙ. බුදුරජාණන් වහන්සේ දැක්කහම ඒ ශාන්ති නායකයාණන් වහන්සේගේ මහා කාරුණික නෙතු සඟල, ඒ බුදුරජාණන් වහන්සේගේ තිබුනු සන්සුන් ඉරියව් ඒවටයි හිත පහදින්නෙ. හැබැයි මේ මාගන්ධිය බමුණාට හිත පැහැදුනේ ඔතෙන්ට නෙවෙයි. මහා පුරුෂ ලක්ෂණ වලින් යුක්ත ඒ රූප සෝභාවට මාගන්ධියාවත් රත්තරන් පාට ඡවි වර්ණයක් තිබ්බ කෙනෙක්. ඉතින් මාගන්ධිය බමුණා කල්පනා කලා මගේ දූට තියෙන්නෙත් රත්තරන් පාට සිරුරක්. මේ පුරුෂයාට, මේ ශ්‍රමණයන් වහන්සේට තියෙන්නෙත් රත්තරන් පාට සිරුරක්. හැබැයි මගේ දූගේ රත්තරන් පාටට වඩා අතිශයින්ම රත්තරන් පාටයි මේ ශරීරය. මේ ශරීරයේ උන්වහන්සේගේ නෙතු සඟල ඒ නෙතු සඟල පුදුම ලස්සනක්නෙ. මෙහෙම මෙහෙම භාග්‍යවතුන් වහන්සේගේ ශරීර ලක්ෂණ දැකලා මේ බමුණට හිත පැහැදුනා. හොඳට ශරීර ලක්ෂණ බලාගන්නත් පුලුවන් වුනා, බුදුරජාණන් වහන්සේ භාවනා ඉරියව්වෙන් තමයි වැඩ හිටියෙ. ඉතින් මාගන්ධිය බමුණා එතනම ඉන්නවා, භාග්‍යවතුන් වහන්සේ ඇස් දෙක අරිනකල්. දෑස් යුග විවර කරනකල් ඉඳලා මේ මාගන්ධිය බමුණා කියනවා ශ්‍රමණයන් වහන්ස, ඔබ වහන්සේගේ රූපය පුදුම ලස්සනක්. ඔබ වහන්සේගේ රූපය හරිම හැඩයි. ඔබ වහන්සේ වගේ රූපවත් කඩවසම් තරුණයෙක්ව මං හොය හොයා හිටියෙ, මගේ දූව විවාහ කරලා දෙන්න. ඔබ තමයි ඊට සුදුසු කෙනා. ඔබයි ඊට සුදුසු කෙනා. මගේ දුවව ඔබටයි මං විවාහ කරලා දෙන්නෙ. ඔබ කොහේවත් යන්න එපා, ඔබ ඔතනම ඉන්න. මං මගේ දුවව එක්කං එන්නම් කිව්වා. භාග්‍යවතුන් වහන්සේගේ මහා කරුණාව කියන්නෙ බුදුරජාණන් වහන්සේ වචනයක්වත් ප්‍රකාශ කලේ නෑ, අහගෙන හිටියා. ඉතින් මාගන්ධිය බමුණාට හිතුනා එහෙනම් වැඬේ හරි කියලා. ඉක්මණින් ගෙදරට ගිහිල්ලා මාගන්ධියා කියන තමන්ගේ දූට කියනවා දුවේ ඉක්මණට ලෑහැස්ති වෙන්න. ඔයාව විවාහ වෙන්න සුදුසු පුරුෂයා මට හමුවුනා.

ඉතින් මාගන්ධියාට හරි සන්තෝෂයක් ආවා, තාත්තා කෙනෙක් හොයාගත්තා නම් මටත් වඩා ලස්සන ඇති. එතකොට මාගන්ධිය බැමිණියයි, මාගන්ධිය බමුණයි, මේ බොහොම ලස්සන රූප සෝභා ඇති මාගන්ධියාවයි බුදුරජාණන් වහන්සේ වැඩ හිටියා කියන තැනට ඔන්න පා ගමනින් ගියා. යද්දි භාග්‍යවතුන් වහන්සේ එතන පේන්න නැහැ. හැබැයි බුදුරජාණන් වහන්සේ අධිෂ්ටානයක් කරලා ගියා - ඒ අධිෂ්ටානයෙන්නෙ පින්වතුනේ භාග්‍යවතුන් වහන්සේගේ සිරිපා කමලක් මේ මහපොළොවේ පිහිටන්නෙ. බුදුරජාණන් වහන්සේ අධිෂ්ටාන කලේ නැත්නම් ඒ පියවර සටහන් පොළොවේ හිටින් නෑ. ඉතින් බුදුරජාණන් වහන්සේ අධිෂ්ටානයක් කරලා ගියා මේ පිරිස ශාස්තෘන් වහන්සේගේ පිය සටහන් දකින්වා කියලා. පොළොවේ තියෙනවා පියවර සටහනක්. ඒ පියවර සටහන දකිනකොටම අර මාගන්ධිය බැමිණි පොළොවට පාත්වෙලා හොඳට පිරික්සලා බැලුවා. බලද්දි මාගන්ධිය බැමිණිට තිබුනා ලක්ඛණ ශාස්ත්‍රය ගැන දැනුමක්. ඈ මාගන්ධිය බමුණාට කියනවා අපි මේ යන ගමන අපි යන්නේ යම් අර්ථයක් උදෙසා ද ඒ අර්ථය නම් සම්පූර්ණ වෙන එකක් නෙවෙයි. මේ පුරුෂයාව කොයිම විදියකින්වත් කාමයට බඳවන්න බැහැ. මේ පුරුෂයා කාමයට වැටෙන කෙනෙක් නෙවෙයි කිව්වා. අංගලක්ඛණ ශාස්ත්‍රයෙන් ඒක බලාගන්න පුලුවන්කමක් තිබුනා. එතකොට මේ මාගන්ධිය බමුණාට කේන්ති ගියා. දැන් මාගන්ධිය බමුණාත් දන්නවා මේ ලක්ඛණ ශාස්ත්‍රය. නමුත් මාගන්ධිය බමුණාට කේන්ති ගියා. දැන් මේ වෙලාවේ ඔය වගේ මූසල කතා කියන්න එපා කිව්වා. මං ඒ ශ්‍රමණයාත් එක්ක කතා බහ කරලා ආවෙ. ඒ ශ්‍රමණයා වචනයක්වත් නොදොඩා ඒක අහගෙන හිටියා. ඒ කියන්නෙ එකත් එකටම මගේ දුව පිළිගන්න ඔහු කැමැතියි. ඒ නිසා දැන් ඒ ශ්‍රමණයාව හොයමු කියලා ඔන්න දැන් බැලුවා වටපිට. බලනකොට පේනවා ඊට නුදුරේ රුක් සෙවණක ඒ බුදුරජාණන් වහන්සේ පළඟක් බැඳගෙන වාඩිවී සිටිනවා. ඒ වාඩිවී සිටින ඉරියව්ව මාගන්ධිය බමුණා, මාගන්ධිය බැමිණී, මාගන්ධියාව කියන ලස්සන රූ සිරි ඇති ස්ත්‍රිය තුන්දෙනාම දැක්කා. සන්තින්ද්‍රියන්, ශාන්ත ඉඳුරන්. සන්තමානසං, බැලූ බැල්මෙන්ම පේනවා ඒ උත්තමයන් වහන්සේට තියෙන්නෙ සංසිඳුනු මනසක්. හරියට ශ්‍රේෂ්ට හස්තිරාජයෙක්, බොහොම හැඩකාර හස්තියෙක්ව ඇතට පේනවා වගේ බුදුරජාණන් වහන්සේව පේනවා රන් පිළිමයක් රුක් සෙවණේ තිබ්බා වගේ. හරියට හිත පහැදුනා. බුදුරජාණන් වහන්සේ ළඟට ළංවුනා. දැන් මාගන්ධියාව බුදුරජාණන් වහන්සේ ළඟට ළංවෙනකොට ඒ මාගන්ධියාට පේනවා භාග්‍යවතුන් වහන්සේගේ රූ සිරිය. ඈ

වසඟ වුනා. ඇය හිතින් හීන ලෝක ගොඩාක් ගොඩනැගුවා, අනේ මේ වගේ පුරුෂයෙක් මගේ ස්වාමිපුරුෂයා වෙනවා කියන්නෙ මම නේද මේ ලෝකෙ ඉන්න වාසනාවන්තම කාන්තාව. ඇය එහෙම හිතුවා. මාගන්ධිය බමුණා භාග්‍යවතුන් වහන්සේ ළඟට ගිහින් බුදුරජාණන් වහන්සේට කියනවා ශ්‍රමණය, මං ඔබට කිව්වානෙ මගේ රූප සෝභා ඇති දුව ගැන. මේ ඉන්නේ ඇයයි කියලා මාගන්ධියාව ඉදිරිපත් කලා. ඇත්තටම ඇය ලස්සනයි. ඇත්තටම රූප සෝභා ඇති ඇය ගැන බුදුරජාණන් වහන්සේ මෙන්න මේ විදියේ වචනයක් වදාළා. භාග්‍යවතුන් වහන්සේ වදාළා, බ්‍රාහ්මණය මං මේ ජීවිතේ අවබෝධ කරපු කෙනෙක්. මේ ශරීරය අවබෝධ කරපු කෙනෙක්. තථාගතයන් වහන්සේ මේ නවද්වාරයෙන් අශුචි වැහෙන ඔය සිරුර අතකින් තබා පයකින් වත් ස්පර්ශ කරන්න අකැමැතියි. නවද්වාරයෙන් කුණු වැහෙන අශුචි පිරවූ භාජනයක් බඳු ඔය ශරීරය තථාගතයන් වහන්සේ අතකින් තබා පයෙන්වත් ස්පර්ශ කරන්න අකැමැතියි කිව්වා. එතකොට ඒ බුදුරජාණන් වහන්සේ වදාළේ අර්ථයක්නෙ. අර්ථයක් කියලා කිව්වෙ පින්වතුනේ මේ ජීවිතේ තියෙන ඇත්තනෙ. මේ කියන නවද්වාරයෙන් අශුචි වැහෙනවා කියන්නෙ බොරුවක් නෙවේනෙ. ඉතින් එහෙම අශුචි වැහෙන බව මේ කය පරිහරණය කරන අපි දන්නවානෙ. මේ ශරීරයේ වැහෙන අශුචි පිරිසිදු කර කර නේද අපි මේක තියන් ඉන්නෙ. නොයෙකුත් සුවඳ විලේපන ආලේපනය කර කර අපි මේ ශරීරය සුවඳවත් කරගන්නෙ ඇයි? මේක දුර්ගන්ධ නිසා. හොඳට හෝදලා කර කර පිරිසිදු කරන්නෙ ඇයි? මේක කිළිටි වෙන නිසා. ඇඳුම් ආයිත්තම් පළඳ පළඳ හැමතිස්සෙම අපි මේක ලස්සනට තියාගන්න වෑයම් කරනවා. හැබැයි මේක පිළිකුල් සහගතයි. පිළිකුල් සහගත ශරීරයක්. ඊළඟට මේ ශරීරය දිරන ශරීරයක්. ඒ දිරන ශරීරය නිසා නේද මේ ලෝකෙ තියෙන්නෙ කොණ්ඩෙ කළු කරන්න කියලා ආලේපන ජාති තියෙනවා. ඒ කොණ්ඩෙ කළු කරන ආලේපන කියලා ඇයි එක්ක හැදිලා තියෙන්නෙ කොණ්ඩය සුදු වෙන නිසා. කොණ්ඩය සුදු වී යාම නිසා මේ කොණ්ඩයේ විශේෂයෙන් ආලේප කරන්න ආලේපන හදලා තියෙනවා. ඉතින් කොණ්ඩ සුදු වෙන කාල එනවා. ඊටපස්සෙ දත් කැඩිලා යන කාලෙ එනවා, ඉතින් දත් දාන්න සිද්ධ වෙනවා. එහෙම කාල එනවා. මේ විදියට මේ ශරීරයේ හැබෑ ස්වභාවයක් තියෙනවානෙ. ඒ හැබෑ ස්වභාවය අවබෝධ කරගත්ත බුදුරජාණන් වහන්සේ ඒ අවබෝධයෙන් යුක්තව පොදුවේ ශරීරය ගැන කිව්වා. පොදුවේ ශරීරය ගැන කියනකොටම ඒ වචනය සවන්පතට ඇහෙනකොටම මාගන්ධියාව කිපුනා. මාගන්ධියාව හොඳටම කිපුනා. ඇට

බාහිර රූපය ලස්සනට තිබුනාට අභ්‍යන්තරය ලස්සන කෙනෙක් නෙවෙයි. ඈ හොඳටම කිපුනා. කිපිලා වෛරයක් බැඳගත්තා, මට අශුචි පිරවපු කුණු භාජනය කියලා කිව්වා. අශුචි පුරවපු අශුචි භාජනය කියලා මට කිව්වා. මට ඒ වගේ නින්දා සහගත වචනයක් කතා කලා කියලා ගස්සලා දුවගෙන ගියා, ඈ හිටියෙ නෑ. හැබැයි මාගන්ධිය බමුණාත්, මාගන්ධිය බැමිණියත් නැවතුනා. මාගන්ධිය බ්‍රාහ්මණයා විස්මයට පත්වෙලා අහනවා ඈ ශ්‍රමණය මෙච්චර රූප සෝභා ඇති මෙච්චර රූප සෝබා ඇති මගේ දුවට ඔබ ඔහොම කියනවා නම් ඔබ මේ බඹසරක් ආරක්ෂා කරන්නෙ, පැවිද්දක් ආරක්ෂා කරන්නෙ දෙව්ලොව දිව්‍යශ්‍රී පතාගෙනද කියලා ඇහුවා. එතකොට බුදුරජාණන් වහන්සේ තමන් වහන්සේ කාමය නොපතන, කාමයෙන් නිදහස් වෙච්චි බව තේරෙන්න මාගන්ධිය සූත්‍ර දේශනාව දේශනා කලා. ඒ දේශනාව අවසන් වෙනකොට මාගන්ධිය බ්‍රාහ්මණයාත්, මාගන්ධිය බැමිණියත් අනාගාමී ඵලය සාක්ෂාත් කලා. අනාගාමී වුනා. බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක භාවයට පත්වුනා. බලන්න එතකොට භාග්‍යවතුන් වහන්සේගේ ඒ වෙලාවේ කරුණාවෙන් ඉවසුවේ මාගන්ධිය බමුණාගේ වචනය ඒ දෙන්නට මාර්ග ඵල ලබන්න පුලුවන් කියන එක දැකපු නිසා. බුදුරජාණන් වහන්සේව දැකලා මුලින්ම මාගන්ධිය බමුණා පැහැදුනේ උන්වහන්සේගේ රූපයටනෙ. පැහැදිලා භාග්‍යවතුන් වහන්සේට වචන කිව්වානෙ. මං දුවව එක්කන් එන්නම් කියලා. භාග්‍යවතුන් වහන්සේ ඒ වෙලාවේ ඉවසුවා. ඇයි ඉවසා වදාලේ, බැමිණියත් එතෙන්ට කැඳවා ගන්න. බැමිණිය එතෙන්ට කැඳවාගෙන ඒ දෙන්නට අවධානයෙන් බණ ඇසීම පිණිස යොමුවෙන්නයි බුදුරජාණන් වහන්සේ ඔක්කොම කලේ, මහා කරුණාවෙන්. ඉතින් මාගන්ධියාවට කල්පනාව තිබ්බෙ නැති නිසා, සිහිනුවණ තිබ්බෙ නැති නිසා ආඩම්බරකම තිබ්බ නිසා ඈට වැරදුනා. ඇයගේ හිතට ගියපු ඒ ද්වේෂය දුරු කරන්න මාගන්ධිය බමුණාටවත්, මාගන්ධිය බැමිණියටවත් බැරිව ගියා. දැන් වෛර බඳිනවා. මට අශුචි පුරවපු කුණු භාජනය කියලා කිව්වා, මං බලාගන්නම්. මං බලාගන්නම් කියලා බුදුරජාණන් වහන්සේගෙන් පළිගන්න බලාගෙන හිටියා. නමුත් මහා කාරුණික ශාස්තෘන් වහන්සේගේ මහා ගුණරාව තිබුනා, ඒ ගුණරාවයට රාජ රාජ මහාමාත්‍ය මේ පිරිස පැහැදිලා හිටියා, මාගන්ධියා දැනගත්තා එහෙම ලේසියෙන් නම් බුදුරජාණන් වහන්සේට අනතුරක් කරන්න බෑ. ඒ නිසා මාගන්ධියා කල්පනා කලා රාජ්‍ය බලය ගන්න ඕන. රාජ්‍ය බලය ගන්න තියෙන ක්‍රමය මොකක්ද, රජ කෙනෙක්ව තමන් වසඟ කරගන්න ඕන. ඈ වසඟ කරගත්තා. උදේනි

රජ්ජුරුවන්ව වසඟ කරගත්තා. එතකොට උදේනි රජ්ජුරුවන්ගේ රාජකීය බිසෝවරු අතරේමයි සාමාවතී කියන බිසවත් හිටියෙ. සාමාවතිය තෙරුවන් සරණ ගියපු කෙනෙක් කියලා දැනගත්තේ මේ මාගන්ධියා මේ රජ්ජුරුවො ළඟට ආවට පස්සෙ. සාමාවතිය බුදුරජාණන් වහන්සේ ගැන හරී ප්‍රසාදයෙන් කතා කරනකොට මාගන්ධියාට කටු අනිනවා වගේ. ඇයි මාගන්ධියා ද්වේෂයෙන් ඉන්නෙ. භාග්‍යවතුන් වහන්සේ ගැන තියෙන ද්වේෂය සාමාවතිය හරහා පිට කලා මාගන්ධියා, නොයෙක් හිරිහැර කලානෙ පින්වතුනෙ, නොයෙක් හිරිහැර කලා. නොයෙක් තාඩන පීඩන කලා. නැති ප්‍රශ්න හැදුවා. හැබැයි ඒ හැම ප්‍රශ්නයක් ඉස්සරහම සාමාවතියත් සාමාවතීගේ අනුගාමික ඒ බිසවුන් වහන්සේලාත් ධර්මය තුළම පිහිටා හිටියා, සෙලවුන් නෑ, කම්පා වුන් නෑ. බුදුරජාණන් වහන්සේගේ ධර්මයම සිහි කලා. මෛත්‍රිය ආදී ගුණධර්ම ඇතුලේම හිටියා. ධර්මය තුළට පැමිණි කෙනා එහෙමනෙ. ධර්මය තුළට පැමිණි කෙනා තමන්ගේ ජීවිතයට අර්බුද එනකොට තමන්ගේ ජීවිතයට ප්‍රශ්න එනකොට ධර්මයටම සමීප වෙනවා. ධර්මයෙන්ම පිහිටක් වෙනවා. ඒක තමයි ධර්මය තමන්ගේ ජීවිතයට ගැලපුනාද කියලා බලන්න තියෙන හොඳම ක්‍රමය, තමන්ගේ ජීවිතේට අභියෝග එනකොට තමන් ධර්මය අතහරිනවාද, ධර්මයට ළංවෙනවාද කියන එක. අපි දකිනවා බොහෝ දෙනෙකුගේ ජීවිත වල ඒ ගොල්ලො බණ අහන්න එනවා, ධර්මයට සම්බන්ධ වෙලා පින් දහම් කරගෙන ඉන්නවා. හැබැයි හොඳට ඉන්න කාලෙ. ජීවිතයට ප්‍රශ්නයක් ආපු ගමන් ධර්මය අත්හැරලා මොනවාහරි ක්‍රමයකින් ප්‍රශ්නයෙන් ගොඩ එන්න ඕන කියන තැනට තමයි යන්නෙ. මොනවහරි ක්‍රමයකින් මං මගේ ප්‍රශ්නයට විසඳුමක් හොයනවා කියන තැනටයි යන්නෙ. එතනින් ධර්ම මාර්ගයම වරදිනවා. ධර්ම මාර්ගයම එතනින් වරද්දාගන්නවා. ඉතින් සාමාවතිය එහෙම වුන් නෑ, සාමාවතිය තමන්ගේ පිරිසට දැනුවත් කර කර දැනුවත් කර කර ධර්මය තුළම පිහිටා හිටියා. අවසානයේ මාගන්ධියා බොහොම දුෂ්ට වූ පළිගැනීමක් කලා. එදා උදේනි රජ්ජුරුවො රජමාළිගාවේ නොහිටි වෙලාවක ඇ උපායක් යෙදුවා තමන්ගේ ඥාතී වන මාමාවරු පිරිසක් එක්ක එකතු වෙලා සාමාවතියත් සාමාවතියගේ පිරිසත් වාසය කරපු එක ශාලාවක්, එක විශාල ශාලාවක් තිබුනා. ඒ ශාලාවේ ඇලා ඇතුලට දාලා මෙතන පන්සීයක් පිරිස හිටියා. ඇලාව ඇතුලට දාලා දොරවල් ඔක්කොම වැහුවා. දොරවල් වහලා එළියෙන් රෙදි පාන්කඩ එලලා ඒකට ගින්ගන්නා තෙල්, වහා ගිනි ඇවිලෙනෙ තෙල් ඒවාට වැක්කෙරුවා. වක්කරලා පින්වතුනි මේක ගිනි තිබ්බානෙ. ගිනි තියනකොට

සාමාවතිය ඇතුළු පන්සියක් දෙනාට මෛත්‍රී සමාධියට, මෛත්‍රී ධ්‍යාන තිබ්බ කෙනෙක් මේ සාමාවතිය. නමුත් මෛත්‍රියට සමවදින්න බැරිව ගියා. මෛත්‍රියට සමවදින්න බැරිවෙන්න හේතුව පින්වතුනි, ඈලා පූර්ව ජාතියක කරගත්ත කර්ම විපාකයක්. ඒ කර්ම විපාකය කැරකිලා මෙතෙන්ට ආවා. ඒ නිසා මෛත්‍රී ධ්‍යානයට සමවදින්න ඕන කියලා හිතක් එන් නෑ. නැත්නම් මෛත්‍රී ධ්‍යානයට සමවැදුනා නම් කොයිම විදියකටවත් අර ගින්නට බෑ සාමාවතියවත් පිරිසවත් දවන්න. හේතුව මෛත්‍රියේ ආනිසංස තිබේ. මෙත්තායි භික්ඛවෙ චේතො විමුක්තියා, මහණෙනි මෛත්‍රියේ චේතො විමුක්තිය යම් කෙනෙක් සේවිතාය බාවිතාය බහුලීකතාය, සේවනය කරයිද, පුරුදු කරයිද, බහුල වශයෙන් පුහුණු කරයිද, යානීකතාය, නැග යා හැකි යානාවක් මෙන් මෛත්‍රිය පුරුදු කරයිද, වත්ථුකතාය, ශරීරයේ පළඳවාගත හැකි වස්ත්‍රයක් සේ මෛත්‍රිය පුරුදු කරයිද, අනුච්චිතාය පරිච්චිතාය සුසමාරද්ධාය, මැනැවින් මෛත්‍රිය හිත තුළ පිහිටුවාගෙන සිටියිද, පුරුදු කරයිද, මැනැවින් පුරුදු පුහුණු කරයිද, එබඳු වූ තැනැත්තාට ආනිසංස 11 ක් ලැබේ. සුඛං සුබති - සුවසේ නිදන්නේය. සුඛං පටිබුජ්ජති - සුවසේම අවදි වන්නේය. න පාපකං සුපිනං පස්සති - ඔහු පව් සිහින නොදකින්නේය. මනුස්සානං පියෝ හෝති - මෛත්‍රිය වඩන තැනැත්තා මිනිස්සුන්ට ප්‍රියමනාප වන්නේය. අමනුස්සානං පියෝ හෝති - නොමිනිස්සුන්ටත් අමනුස්සයන්ටත් ප්‍රියමනාප කෙනෙක් වන්නේය. දේවතා රක්ඛන්ති - දෙවියෝ ඔහුව රකින්නේය. නාස අග්ගීවා විසංවා තත්තං වා කමති - මෛත්‍රියේ තියන හරි අද්භූත ආනිසංසයක්, ගින්නෙන් වස විසෙන් අවි ආයුධයෙන් ඔහු හට අනතුරු නොවන්නේය. ත්වටං චිත්තං සමාධියති - වහා සිත සමාධිගත වන්නේය. මුකවන්නෝ විප්පසීදති - මුහුණේ පෙනුම බොහෝ ප්‍රසන්න වන්නේය. අසම්මුල්හෝ කරෝනං කරෝති - සිහි මුලා නොවී කලුරිය කරන්නේය. උත්තරිං අප්පටිවිජ්ජන්තො බ්‍රහ්මලෝකො උපගොහොති - උත්තරීතර මාර්ගඵල ලබා නොතිබුනොත් මෛත්‍රිය වැඩූ අනුහසින් බඹලොවෙහි උපත ලබන්නේය. ඉතින් මේවා තමයි ආනිසංස 11. එතකොට මේ ආනිසංස 11 ගැන වදාළේ කවුද. තුන්ලොවම අවබෝධ කල මහා කාරුණික බුදුරජාණන් වහන්සේ. බුදුරජාණන් වහන්සේගේ වචනෙ වෙනස් වෙන් නෑ. මෛත්‍රී ධ්‍යානයට සමවැදුනා නම් ඒ වෙලාවේ ඒ මාගන්ධියාවටවත් ඒ පිරිසටවත් මේ සාමාවතියට හානි කරන්න ලැබෙන්නෑ. මෛත්‍රී ධ්‍යානයට සමවැදිලා හිටියා නම් සාමාවතිය කවදාවත් අර ගින්නට සාමාවතිය දවන්න ලැබෙන් නෑ, හැබැයි පූර්ව ජාතියක කර්ම විපාකයක් නිසා ඒ කර්ම විපාකය

පසේ බුදුවරුන්ගේ යුගයක කරගෙන තියෙන්නෙ. ඒ පසේ බුදුරජාණන් වහන්සේ වැඩ හිටපු යුගයේ මේ කර්මය කරගත්ත නිසා ඇයට බැරිවුනා කියනවා පින්වතුනේ මෛත්‍රී ධ්‍යානයට හිත එළවාගන්න. හැබැයි ඇය පිරිසට අනුශාසනා කලා භාග්‍යවතුන් වහන්සේගේ අවවාදයම සිහි කරන්න නැගණිවරුනි. මේ සංසාරෙ හැටි, අපි මේ සසර අතහරිමු. ඇ එහෙම අවවාද කලා. ඒ අවවාද නිසා අර හැමදෙනාම ධර්මය සිහි කර කර, ධර්මය සිහි කර කර මියගියා. ධර්මය සිහිකර කර මිය ගිය එක්කෙනෙක්වත් මාර්ගඵල නොලබා මියගියෙ නෑ. රූකවරණය හදාගෙන මියපරලොව ගියා. එතකොට මාගන්ධියාගේ මෙහෙයවීමෙන් තමයි ඔය මහා විනාසෙ. පන්සීයක් කාන්තාවො එක නිවසේදී අළු කරලා දැම්මා ඉතින්. එතකොට ඕක උදේනි රජ්ජුරුවන්ට ආරංචි වෙලා උදේනි රජ්ජුරුවො බොහෝම කිපිලා මාගන්ධියාවට දරුණු දඬුවමක් දුන්නනෙ. ඒකෙ විපාක ඒ ජීවිතේදිම පැමිණියා. මාගන්ධියාවට රජ්ජුරුවො දීපු දඬුවම හරිම භයානක එකක්. මාගන්ධියා පණ පිටින් ඉද්දීම මාගන්ධියාගේ ශරීරය කෑලි කපනවා. පොඩි පොඩි කෑලි කපලා ඒ කැපූ කෑලි දවලා ඈටම කවනවා. ඉතින් එහෙම මහා දුෂ්ට දඬුවමක්. ඈට විඳින්න සිද්ධ වුනා ඈ කරපු ක්‍රියාවේම විපාකයක් විදියට මේ ජීවිතේ. ඉතින් මේ වෙනකොට මහා නරකයේ ඉපදිලා දුක් විඳිනවා මාගන්ධියාව. එතකොට බලන්න තමන්ට ලස්සන රූප සෝභාවක් තිබුනා. ඒ රූප සෝභාවෙන් උඩඟු වුනා. ඒ උඩඟුකම නිසාම කරගත්ත විනාසය. ඉතින් ඔය කතා පුවත අපි සිහිපත් කරගත්තෙ අද මේ ඉගෙන ගන්න තෙරණිවරුන්ගේ සිදුවීමට ඒක සම්බන්ධ නිසා. ඔය විදියට සාමාවතී කියන ඒ උතුම් බිසවුන් වහන්සේ ඇතුළු පිරිස කාලක්‍රියා කලානෙ. ඒ කාලක්‍රියා කලාම ඈට හිතවත්ව හිටපු අයට හරී දුක හිතුනා. ඒ දුක හිතිච්චි එක්කෙනෙක් තමයි සාමා කියලා කියන්නෙ. ඈ කොසඹෑ නුවර රජ කුලයටම අයිති කෙනෙක්. සාමාවතී බිසව බොහෝම ප්‍රිය භාවයක් තිබුනු හෘදයාංගම මිතුරියක්. සාමාවතීගේ ශෝචනීය මරණය ගැන කළකිරීමක් ඇතිවෙලා ඇය තීරණය කලා මේ වගේ දුෂ්ටයන්ගෙන් ගුටි කකා ඉන්න මේ ජීවිතය මට එපා. ඊට වඩා හොඳයි මං බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පැවිදි වුනා නම්. ඈ රාජකීය සම්පත් ඔක්කෝම අත්හැරලා ගිහිල්ලා පැවිදි වුනා. පැවිදි වුනාට ඇයට හරි අමාරු වුනා කියනවා සිත දමනය කරගන්න. සිත දමනය කරගන්න බැරිව සිතට නොයෙක් සරාගී සිතුවිලි, ද්වේෂ සහගත සිතුවිලි, හිංසා සහගත සිතුවිලි පාපී හිතුවිලි එනකොට හරියට කම්පා වුනා. මේ කම්පා වෙවී ඉන්නකොට ඈට දවසක් අපේ ආනන්ද මහාතෙරුන් වහන්සේගේ බණක් අහන්න වාසනාව

ලැබුනා. ඒ බණ පදය ඇගේ හිතට ගියා. ඒ වෙනකල් බණ අහලා තිබුනා. ඒ වෙනකල් ඇසු බණ ඇයට තදින් හිතට ගියෙ නෑ. මේ බණ පදය ඇගේ හිතට ගියා. ඉතින් මේක බොහොම ලස්සන පණිවිඩයක් පින්වතුනේ. අපිට කොයි විදියට කොයි වෙලේ බණ පදයක් හිතට යයිද කියලා අපි දන්නෙ නෑ. කළයුත්තේ බණ ඇසීම. කළ යුත්තේ නිතර නිතර බණ ඇසීමයි. එසේ බණ අසනා කල්හි ඒ අසනා බණ පද වල අපිට අසාමාන්‍ය යෝනිසෝමනසිකාරයක් ඇතිවන බණ පදය කොයිවෙලේ හරි මුණගැහෙන්න පුලුවන්. ඒ නිසා කළයුත්තේ නිතර නිතර ධර්මය ශ්‍රවණය කිරීමයි. නිතර නිතර බණ අහන්න ඕන. දැන් ඇයට හිත පාලනය කරගන්න බෑ, නොයෙක් අකුසල් සිතිවිලි වලින් හිත වෙහෙසට පත්වෙනවා. ඒ වෙහෙසවල් අතරේ ඇය බණ අහනවා. ඇය ආරාමෙන් ආරාමෙට ගිහිල්ලා ධර්ම කථික භික්ෂුණීන් ඇසුරු කර කර බණ ඇහුවා. හොඳට බණ ඇහුවා. හැබැයි ඉතින් අහපු ඒ එක බණකින්වත් ඈට සම්පූර්ණ සුවයක් ඇතිවුන්නෑ. ආනන්ද මහතෙරුන් වහන්සේ භික්ෂුණී ආරාමයට වැඩම කරලා එදා බණ පදය දේශනා කරනකොට ඒක තදට හිතට කාවැදුනා. ඉතින් එදා දේශනා කරපු බණ පදය මොකක්ද කියලා මේ අටුවා පොත් වහන්සේලාගේ සඳහනක් නෑ, හැබැයි ඒ බණ පදය හිතට අරගෙන ඈ වීර්යය කලා. එහෙම වීර්යය වඩනකොට දින හතක් ඇතුලේ අර්හත් උත්තමාවියක් බවට පත්වෙන්න ඇයට වාසනාව ලැබුනා. ඒ ගැන ඒ අර්හත් තෙරණිය මේ විදියටයි කියන්නෙ. චතුක්කත්තුං පඤ්චකත්තු විහාරා උපනික්ඛමිං අලද්දා චේතසෝ සංතිං චිත්තෙ අවසවත්තිනී ඉස්සර මට චිත්ත සමාධියත් තිබුනේම නෑ, සිත කොහෙත්ම දමනය කරගන්න බැරිවුනා. මං දවසට හතර පස් වතාවක් ආරාමයෙන් නික්මිලා ගියා. ඒ දවසට හතර පස් වතාවක් ආරාමයෙන් නික්මිලා යන්න හේතුව මොකක්ද, ආරාමයේ ඉන්නකොට කිසි සුවයක් නෑ. හිත දමනය කරගන්න පුලුවන්කමක් තිබුනේම නෑ. වෙහෙස ඉවසන්න බැරි තැන ආරාමයෙන් දවසට හතර පස් වතාවක් නික්මිලා ගියා. ඉතා දුකසේ තමයි මේ ගුණධර්ම ආරක්ෂා කරගෙන තියෙන්නෙ. හැබැයි දුක සේ නමුත් බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ හිටියා. දුක සේ නමුත් සසුන අත්හැරියේ නෑ, දුක සේ නමුත් තිසරණය තුළම පිහිටා සිටියා. ඒ පණිවිඩය අපි හොඳට හිතට ගත යුතු එකක්. අපිට පින්වතුනේ නොයෙක් ප්‍රශ්න එන්න පුලුවන්. අර්බුද එන්න පුලුවන්, අරගල එන්න පුලුවන්. තාඩන පීඩන එන්න පුලුවන්. බලාපොරොත්තු නැති දේවල් එන්න පුලුවන්. මේ ලැබිච්ච තිසරණය නම් අතහරින්න එපා. මොන ප්‍රශ්න ආවත්, මොන කරදරය

මැදි වුනත් තිසරණය නම් අතහරින්න එපා. මොකද මේ ජීවිතේ පින්වතුනි අපිට පෙර පිනකට ලැබිච්ච මහා අනර්ඝ දේ තිසරණයයි. ඊට වඩා කිසිවක්ම නැත්තේය. ඊට වඩා මොකුත් නෑ, මේ ජීවිතේ අපි අවුරුදු හැත්තෑවක් අසූවක් ඉඳලා මැරිලා යන ජීවිතයක්නෙ. මේ මැරිලා යන ජීවිතේ අපිට සරණ, අපිට පිහිට උතුම් තිසරණයමයි. තිසරණයට වඩා වැඩි යමක් නැති බව මේ ලෝකය ගැන නුවණින් කල්පනා කරද්දි හොඳට පේනවා. හොඳට පේනවා මේ තෙරුවන් සරණ තුළ අපිට තියෙන ආරක්ෂාව, ශාන්තියට වඩා දෙයක් පින්වතුනි ලෝකෙම නෑ. ඒ කියන්නෙ මේ ලෝකෙ මිනිස්සු නොයෙක් නොයෙක් අලුත් දේවල් හොයාගන්න පුලුවන්. ඒ හැමදේම ඉතින් මේ ජීවිත කාලය නොයෙක් නොයෙක් අයුරින් අපිව චුට්ටක් සතුටු කරගන්න තියෙන ඒවානෙ. නොයෙක් තාක්ෂණික දේවල් හැදෙන්න පුලුවන්. මේ ජීවිතේ පොඩි කාලෙක සතුටකට තියෙන එකක්නෙ. ඒක ඉක්මණට අහිමි වෙලා යනවා. ඒක සැනෙකින් විනාශ වෙලා යනවා. ඊළඟට අපි ගත්තොත් එහෙම මේ ජීවිතේ අපිට තියෙන යම් උගත්කමක්, ඒ උගත්කම පින්වතුනි සාමාන්‍යයෙන් අපිට මේ ජීවිතයේ සුවසේ ගත කරන්න යම් දැනුමක් සපයනවා තමයි. නමුත් පොඩි ලෙඩකට දුකකටත් ඒ උගත්කම නිශ්ඵල වෙලා යනවානෙ. අපි ඒ උගත්කම් ඔක්කොම තියාගෙන අපි ලෙඩ වෙලා මැරිලා යන්නෙ නැද්ද. එතනින් ඒක ඉවරයි. හැබැයි තෙරුවන් සරණ තුළ, තෙරුවන් සරණ කියන එක හරියට අඳුරගන්න නම් බුදුරජාණන් වහන්සේගේ ධර්මය කියවන්න ඕන. භාග්‍යවතුන් වහන්සේගේ ධර්මය ඉගෙන ගන්නකොට අපිට තේරෙනවා ජීවිතය කියන එක ගැන සියල්ල දේශනා කලේ භාග්‍යවතුන් වහන්සේ. මෙලොව පරලොව ගැන සියල්ල දේශනා කලේ භාග්‍යවතුන් වහන්සේ. පෙනෙන නොපෙනෙන ලෝක ගැන සියල්ල දේශනා කලේ අපේ බුදුරජාණන් වහන්සේ. මේ ඔක්කොගෙම බලපෑමත් එක්ක තමයි මේ ජීවිතේ ගෙවෙන්න තියෙන්නෙ. මේ ජීවිතේ ගැන භෞතිකව බලන කෙනෙකුට නොපෙනෙන ලෝකය කියන එක අහුවෙන්නෑ. භෞතිකව බලන කෙනෙකුට පරලොව කියන එක හරියට අහුවෙන් නෑ, වෙන වෙන ඇදහිලි වල ඉන්න අයට පරලොව කියන එක හරියට අහුවෙන් නෑ. හැබැයි භාග්‍යවතුන් වහන්සේ මෙලොව පරලොව ගැන මනාව අවබෝධ කරගෙන කුසල් අකුසල් ගැන මනාව අවබෝධ කරගෙන පෙනෙන නොපෙනෙන ලෝකය ගැන මනාව අවබෝධ කරගෙන දහම් දෙසූ කෙනෙක්. ඒ නිසා ශාස්තෘන් වහන්සේ ලබාදුන්නු යම් බුදු සරණක් වේද, යම් දහම් සරණක් වේද, යම් සඟ සරණක් වේද, මේ තෙරුවන් සරණට වඩා උතුම් කිසිවක්ම නැත්තේය. ඒ නිසා ප්‍රශ්න

එන්න පුලුවන්, අභියෝග එන්න පුලුවන්. කම්කටොළු එන්න පුලුවන්. පීඩා එන්න පුලුවන්. අඩ අඩා හරි නිසරණය දැකගන්න. ඒ පණිවිඩය අපි හොඳට අරගන්න ඕන, මේ උත්තමාවියගේ චරිතාපදානය ඒකට හරි වටින එකක්. ඒත් මම මේ වතාවේදී අටවෙනි රාත්‍රිය ගෙවෙනකොට තණ්හාව මුලින්ම නැති කරලා දැම්මා. මං මේ දුක් සහිත වූ ජීවිතය නිසාමයි අප්‍රමාදයේ ඇලී වාසය කලේ, තණ්හාව ක්ෂය වුනා. නිවන අවබෝධ කලා. බුද්ධ ශාසනය සම්පූර්ණ කරගත්තා. බලන්න ඒ උත්තමාවිය කියන කතාව. මං මේ දුක් සහිත ජීවිතය නිසාමයි අප්‍රමාදයේ ඇලී වාසය කලේ. ජීවිතේ ආපු දුක්බර සිදුවීම් හින්දමයි කියනවා ඇය අප්‍රමාදී වුනේ. අපිටත් ජීවිතේ දුක් කම්කටොළු එනකොට කළ යුත්තේ අප්‍රමාදී වෙන එක. මොහොතක්වත් ප්‍රමාද නොවීම පිණිස තමන්ගේ ජීවිතයට එන ප්‍රශ්න ආශිර්වාදයක් කරගන්න ඕන. මේ ජීවිතේ අඬන්න ප්‍රශ්න ඇතිවෙනවා. උහුලගන්න අමාරු අඩ අඩා කෑගගහා විඳවන්න වෙන දුක්ගිනි මේ ජීවිතේ ඇතිවෙනවා. ඇතිවෙද්දි නුවණින් සළකන කෙනා කළයුත්තේ තව තව අප්‍රමාදී වීම මෙහෙම දුක් දෙන සසරක් නම් එපා. ප්‍රිය අය වෙන් වෙනකොට සිහි කළයුත්තේ ප්‍රිය අය වෙන්වෙලා යන මේ සසර මට එපා. නාකි වෙනකොට හිතිය යුත්තේ නාකිවෙලා ඔත්පල වෙලා බැරි ගැහෙන මේ සසර මට එපා. නොයෙක් ලෙඩදුක් හටගන්නකොට සිහි කල යුත්තේ ලෙඩදුක් වලින් ගුටිකන්න වෙන මේ සසර මට එපා. අන්තවාදී අරගල ආදී කෝලහාල වලට මැදිවෙනකොට සිතිය යුත්තේ මෙබඳු සසර මට එපා. ඊළඟට මේ අසත්පුරුෂයන්ගේ නොයෙක් කෙණෙහෙලිකම් වලින් ගුටිකනකොට සිහි කළ යුත්තේ මෙබඳු වූ දුක් සහිත වූ සසර නම් එපා. එහෙමයි සිහි කළ යුත්තේ, එබඳු කෙනා තමයි අප්‍රමාදී වෙන්න ඕන. ඇත්ත සිහි කරන කෙනා අප්‍රමාදී වෙනවා. මං මේ දුක් සහිත ජීවිතය නිසාම අප්‍රමාදයේ ඇලුනා, තණ්හාවේ ක්ෂය වුනා, නිවන අවබෝධ කලා, බුද්ධ ශාසනය සම්පූර්ණ කරගත්තා. එහෙමයි සාමා කියන ඒ අර්හත් තෙරණිය ගාථා වදාළේ. තවත් අර්හත් උත්තමාවියක් මං දේශනාව ආරම්භ කරද්දිම කිව්වානෙ ඇගේ නමත් සාමා කියලා. ඉතින් ඒ සාමා කියන අනිත් අර්හත් උත්තමාවියගේ චරිතාපදානය ගත්තහම ඇය මීට අනූ එක් කල්පයකට කලින් කිඳුරියක්. චන්ද්‍රභාගා කියලා නදියක් තිබුනා, ඒ නදියේ කිඳුරියක්. මීට අනූ එක් කල්පයකට පෙරනේ පින්වතුනේ විපස්සී අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළ වුනේ. විපස්සී බුදුරජාණන් වහන්සේ දැකලා ඒ කිඳුරී සිත පහදවාගත්තා. ඒ කිඳුරියට වාසනාව තිබුනා භාග්‍යවතුන් වහන්සේ දකිද්දි හිත පහදවාගන්නට. චිත්ත ප්‍රසාදය කියලා කියන්නෙ මේ

මනසින් කරගන්න බලවත් කුසල කර්මයක්. බුදුරජුන් ගැන හිත පහදවාගැනීම යනු බලවත් වූ කුසල කර්මයකි. ඈ ඒ කුසල කර්මය කරගත්තා. දැන් මේ රහතන් වහන්සේලා ගැනත්, අර්හත් උත්තමාවියො ගැනත් මේ විස්තර වශයෙන් කියාදෙන දේශනා මාලාවේදී පින්වතුන්ලාට නිතර දෙවේලේ අහන්න ලැබුනා ඔය හිත පහදවාගැනීම ගැන, ඇතැම් තිරිසන්නු පවා බුදුරජාණන් වහන්සේ ගැන හිත පහදවාගෙන භාග්‍යවතුන් වහන්සේ ගැන හිත පහදවාගෙන තමන්ගේ ජීවිතයට විශාල යහපතක් සළස ගත්තානෙ. දැන් මේ කිඳුරියක් කියලා කියන්නෙත් තිරිසන් යෝනිය. ඉතින් ඇය ඔය විදියට හිත පහදවාගත්තා, හිත පහදවාගෙන භාග්‍යවතුන් වහන්සේ ගැන භාග්‍යවතුන් වහන්සේ උදෙසා සුවඳ මල් පූජාවකුත් කලා. ඉතින් ඒ පිනෙන් ඇය දෙවියන් අතරේ උපන්නා. දෙවියන් අතරෙ උපන්නට පස්සෙ අපි කලිනුත් ඔබට කියලා දීලා තියෙනවා මේ දෙවියන් අතරේ උපන්නා කියන්නෙ මේ සංසාරෙ දික්ගැහිලා දුකින් දුකට වැටෙන එකක් නෙවෙයි. දෙවියන් අතරේදී බොහෝ අවකාශ තියෙනවා සත්පුරුෂ ඇසුරට. දෙවියන් අතරේ ගිහිල්ලත් ප්‍රමාද වෙලා වරද්දගන්න අවකාශය තියෙනවා. දැන් මේ මනුස්ස ලෝකෙ ඉපදිලා, මනුස්ස ලෝකෙ කියලා කියන්නෙ සුගතියක්නෙ. ධර්මාවබෝධ කරගත හැකි තැනක්නෙ. දැන් මෙතනත් ඉපදිලා අසත්පුරුෂ ඇසුර කරගෙන වරද්ද ගන්නැද්ද. දැන් මෙතනත් එහෙම වරද්දගන්නවානෙ. මෙතනත් වරද්ද ගන්නවා වගේමයි දෙව්ලොවත් සත්පුරුෂයා බැහැර කරලා අසත්පුරුෂයා ඇසුරට වැටෙන්න පුලුවන්. හැබැයි දෙව්ලොව සත්පුරුෂ ඇසරටත් පසුබිම තිබේ. අපි ගත්තොත් මනුලොවින් දෙව්ලොවින් පහල කිසිම ලෝකෙක සත්පුරුෂ ඇසුරට අවකාශ නැති තරම්ය. ඇත්තේම නැති තරම්. සත්පුරුෂ ඇසුරකට, ඔය නාග ලෝක වල වගේ උපන්න අයනෙ පින්වතුනි කලාතුරකින් හරි බුදුරජාණන් වහන්සේ මුණ ගැහිලා භාග්‍යවතුන් වහන්සේගෙන් බණ පදයක් අහගෙන හිත පහදවාගැනීමක්, සරණ සීලයේ පිහිටීමක් සිද්ධ කරගත්තෙ. ඉතින් බලන්න එදා ඒ බුදුරජාණන් වහන්සේ ගැන හිත පහදවාගෙන දෙව්ලොව ගිහිල්ලා සත්පුරුෂ ඇසුරේ හොඳට පින් පුරාගෙන ජීවිතය සැපවත් කරගත්තා. එහෙම පැමිණිලා ඇයත් උපන්නේ මේ බුද්ධ කාලයේ කොසඹෑ නුවර, ඇගේ නමත් සාමා. ඇයත් සාමාවතියට හිටපු බොහොම හෘදයාංගම මිතුරියක්. සාමාවතීගේ ශෝචනීය මරණය සිද්ධවුනාට පස්සෙ ඇය ගොඩාක් කළකිරුනා. කළකිරිලා බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පැවිදි වුනා. තරුණ වයසෙන්ම පැවිදි වුනාට පින්වතුනි ඇයට බොහෝ කාලයක් ධර්ම මාර්ගය දියුණු කරගන්න

අපහසුව ඉදලා තියෙනවා අවුරුදු විසි පහක්. ඒ කියන්නෙ අවුරුදු විසිපහෙන් තිහෙන් වගේ නම් පැවිදි වුනේ, අවුරුදු පනහ, පනස් පහ වගේ වෙනකල් ධර්ම මාර්ගයේ කිසිම දියුණුවක් ඇයට ලබාගන්න බැරිව ගියා. ඇය උතුම් ධර්මාවවාද හොය හොයා කල්‍යාණමිත්‍ර භික්ෂුණීන් වහන්සේලාව ඇසුරු කලා. නිතර බණ පද අහනවා. ඒ අහන බණ පද නොයෙක් ආකාරයෙන් විමසන්න මහන්සි ගන්නවා. ඉතින් මෙහෙම හිටියා. මෙහෙම ඉද්දි දවසක් භාග්‍යවතුන් වහන්සේගෙන් සුන්දර දහම් අවවාදයක් ඇයට අහගන්න ලැබුනා. ඒ අහපු බණ පදය අවුරුදු විසිපහකට පස්සේ ඒ අහපු බණ පදය විශේෂයෙන් හිතට ගියා. ඇය ඒකම හිතට අරගෙන වීර්යයෙන් භාවනා කලා. දින හතක් ඇතුලත අර්හත් තෙරණියක් බවට පත්වෙලා මෙන්න මේ ගාථා වදාලේ. මං මහණ වෙලා අවුරුදු විසි පහක්ම ගෙවුනා. මෙච්චර කාලයකට මගේ හිත තුල සමාධි මාත්‍රයක්වත් ඇතිවුනේ නෑ, සිත දමනය කරගන්න බැරිව සමාධියක් ලබාගන්න බැරිව බුදුසමිදුන්ගේ අවවාද සිහි කර කර මං ගොඩාක් සංවේග වුනා. ඇයි භාග්‍යවතුන් වහන්සේගේ අවවාද සිහි කරනකොට ඇයට සංවේගය උපන්නෙ? ඇය කොච්චර මහන්සි ගත්තත් හිත දමනය වෙන් නැනෙ. ඇය කොච්චර වීර්යය වැඩුවත් සමාධි මාත්‍රයක්වත් ඇතිකරගන්න බැහැ. එතකොට මැට හිතෙනවා, අයියෝ මං කිසී දියුණුවක් නොලබාම මගේ පණ යයි. කිසි දියුණුවක් නොලබාම මං මියපරලොව යයි. එහෙම මා මියපරලොව ගියොත් එහෙම මට මේ ධර්මයෙන් ලැබුනු පිළිසරණ ලබාගන්න බැරිව ඈට එහෙම දුක හිතුනා. බොහෝ දුක සහිත මේ ජීවිතය නිසාමයි මං අප්‍රමාදයේ ඇලුනේ. ඒ නිසා ඒ විසිපස් අවුරුද්දක් ඇතුලෙ ඈ හිටියෙ ප්‍රමාද වෙලා නෙවෙයි. ඒ අවුරුදු විසි පහ සමාධි මාත්‍රයක්වත් තිබ්බෙ නැතිවට ඇය හිටියෙ ප්‍රමාද වෙලා නෙවෙයි. ඇය හැමතිස්සෙම මහන්සි ගත්තා හිතින් අකුසල් දුරු කරන්න. ඈ හැමතිස්සෙම මහන්සි ගත්තා කුසල් වඩන්න. ඒක අතහැරියෙ නෑ. වීර්යය ගැන කියනකොට ශාසනයේ පාවිච්චි කරන ලස්සන වචනය අනික්ඛිත්ත දුරෝ කුසලේසු ධම්මෙසු - කුසල් දහම් වැඩීමෙහි ලා අත්නොහරිනා වීර්යය. වීර්යය ගැන හොඳට මතක තියාගන්න පින්වතුනේ. වීර්යයේ තියෙනවා ප්‍රධාන අංගයක්. අත් නොහැරීම. වීර්යය වඩනවා කියලා බොහෝ දෙනෙකුට කරගන්න බැරි දෙයක් තමයි අත්නොහැර කිරීම. ගොඩාක් දෙනෙක් පටන් ගන්නවා, මම නම් මේක කරනවා කියලා, අනේ ටික දවසයි. ඒකට මක්ක වුනාද දන්නෙ නෑ. ඒ වීර්යයට මක්වුනාද දන්නෙ නෑ, ඒක එහෙම්මම නැතිවෙලා ගිහිල්ලා. වීර්යය කියන්නෙ එහෙම එකක් නෙවෙයි, වීර්යයට වචනයක් කියනවා ආරද්ධ විරිය. ආරද්ධ කියලා

කියන්නෙ මොකක්ද, පටන් ගත් වීර්යය. ඒ වීර්යය හැමතිස්සෙම ඒ වීර්යය ගැන කියන්න තියෙන්නෙ පටන් ගත්. ඒක පටන් අරගෙන තියෙන එකක්. ඒක සජීවී එකක්. ඒක වැඩ කරන එකක්. ඒක නවතින් නෑ, ඒක නවතින්නේ තමන්ගේ ඉලක්කය සාක්ෂාත් වුනාට පස්සෙ. අන්න ඒකටයි කියන්නෙ අනික්ඛිත්තදුර, තමන්ගේ ඉලක්කය සපිරෙන තෙක් පවතිනා වීර්යය. එතකොට වීර්යයක් විදියට තියෙන්න ඕන අන්න එහෙම එකක්. වීර්යය විදියට මේ උත්තමාවියට එහෙම එකක් තිබුනා, ඉතින් ඒ වීර්යයෙන් කොච්චර කල් හිටියාද, විසි පස් අවුරුද්දක්. ඉතින් මේ කාරණා අහද්දි අපිට හොද තේරුමක් ඇති කරගන්න පුලුවන් අපි බලාපොරොත්තු වෙන වේගෙන්. අපි මහන්සි වුනා කියලා අපි බලාපොරොත්තු වෙන වේගෙන් මේක වෙන් නෑ, ධර්මය දියුණු කලා කියන්නෙ ඉන්ද්‍රිය ධර්මයන් වැඩීම. ඒ ඉන්ද්‍රිය ධර්මයන් වැඩෙන්න කාලයක් යනවා, ඒ කාලය කොච්චර ද කියලා අපි කාටවත් කියන්න පුලුවන්කමක් නෑ, ඒක කියන්න පුලුවන් එකම එක්කෙනයි මේ ලෝකෙ ඉන්නෙ, ඒ තමයි අපේ ශාස්තෘන් වහන්සේ. බුදුරජාණන් වහන්සේට විතරමයි තිබුනෙ ඉන්ද්‍රියපරොපරියත්ත ඥාණය. ඒක වෙන කාටවත් නෑ. ඉන්ද්‍රිය ධර්ම මෝරන්නෙ කොහොමද කියලා දන්න නුවණ බුදුරජාණන් වහන්සේට විතරයි තිබුනෙ. අනිත් කෙනා ඉතින් අත්නොහැර ධර්ම මාර්ගය දියුනු කරන්න ඕන දියුණු කරද්දි ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, ප්‍රඥා කියන ඉන්ද්‍රිය ටිකෙන් ටික වැඩෙනවා, යම් දවසක ඒවා මෝරා යනවා. ඉතින් මේ තෙරණියගේ ඉන්ද්‍රිය ධර්මයෝ මෝරා ගියා. තණ්හාව ක්ෂය වුනා, නිවන අවබෝධ කලා. බුද්ධ ශාසනය සම්පූර්ණ කරගත්තා, මං තණ්හාව නැති කරලා අදට දවස් හතයි. ඒ උත්තමාවිය අර්හත්වයට පත්වෙලා දින හතකට පස්සෙ තමයි මේ ගාථා වදාරලා තියෙන්නෙ මං තණ්හාව නැති කරලා අදට දවස් හතයි කියලා ඒ උත්තමාවිය ථෙරගාථාවේදී වදාළේ. අද අපි ඉගෙන ගත්තෙ සාමා නමින්ම යුතු අර්හත් තෙරණිවරු දෙන්නෙකුගේ ගාථා. ඉතින් ඒ අර්හත් තෙරණිවරුන්ටත් නමස්කාර කරමින් අපි පුණ්‍ය ප්‍රාර්ථනා එක්කර ගනිමු, අපිටත් ඒ අර්හත් තෙරණිවරුන්, ඒ උතුම් රහතන් වහන්සේලා නිවී සැනසුනු ඒ උතුම් අමා මහ නිවනේ සැනසෙන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!!

රැස් කල සියලු පින් සියලු දෙවියෝ සතුටින් අනුමෝදන් වෙත්වා, සක්දෙවිඳුන් සතර වරම් දෙවිවරුන් සෙන්පති දෙවිවරුන් පින් අනුමෝදන් වෙත්වා, අපගේ ඉෂ්ටකාමී හිතකාමී සියලු දෙවිවරු සුමන සමන් දෙව්රජ ප්‍රධාන ලංකා භූමිය සුරකින දෙවිවරු මේ සියලු පින් අනුමෝදන් වෙන දෙවියෝ දිව්‍ය සැපයෙන්

වැඩේවා, ඒ සියලු දෙවියන්ගේ ආශිර්වාදය, රැකවරණය, උපකාරය අප හැමදෙනාට දෙවිවරු සළසත්වා, දෙවියෝද සසර දුකින් අතමිදේවා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අපගේ ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා, ගුරු දේවයන් වහන්සේ නිදුක් වෙත්වා, නිරෝග වෙත්වා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා, ඒ වගේම පින්වතුනේ මේ වගේ ආපදා සම්පන්න කාල වකවානුවකත් අපි හැමදෙනාම උතුම් සද්ධර්මය මේ විදියට සුවසේ ශ්‍රවණය කරන්නෙ බුදුරජාණන් වහන්සේගේ ධර්මය ඉගෙන ගන්නෙ ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන් විදුලිය ආරම්භ වෙලා තිබුනු නිසා ඉතින් මේ ශ්‍රද්ධා මාධ්‍ය ජාලය ආරම්භයේ පටන් මේ දක්වාම අනුශාසකත්වය දරන මේ සියලු කටයුතු සොයාබලන අපගේ පින්වත් අලදෙනියේ සුබෝධි ස්වාමීන් වහන්සේට මේ සියලු පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා. අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. මහමෙව්නාවාසී රට ලෝක වාසී මහා සඟරුවනට මේ පින් අනුමෝදන්ව පින්වතුන් වහන්සේලා නිදුක් නිරෝගී සුව ලබත්වා, ගෞතම බුද්ධ ශාසනයේ සුවසේම ධර්මාවබෝධ කරගන්න වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද ධර්මදානය සිදු කරන පින්වතුන්ලාගේ ප්‍රධාන අරමුණෙ ලස සඳහන් කොට ඇති පරිදි 2022 ජූනි මාසෙ 09 වන දින අද දවසේ 14 වන උපන්දිනය යෙදුනු පින්වත් ඔකිත නුරාන් සෙනෙවිරත්න පුතාට මේ සියලු පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. මේ පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදයෙන්, තෙරුවනේ ආශිර්වාදයෙන් සියලු දෙවියන්ගේ ආශිර්වාදයෙන් ඒ පුතාට සියලු යහපත අභිවෘද්ධිය සැලසේවා. අධ්‍යාපන කටයුතු ආදිය කිසීම කරදරයකින් බාධාවකින් තොරව සුවසේ සාර්ථකව කරගන්න ලබේවා. ජීවිතයට හරි පාර පෙන්වන සත්පුරුෂයෝම ඇසුරු කරන්න ලැබේවා. ජීවිතය නොමඟ යවන අසත්පුරුෂයෝ කිසි කලෙකත් ජීවිතයට මුණ නොගැහේවා. බුදුරජාණන් වහන්සේගේ ශාසනය පවතින් මේ යුගයේ භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවක පුතෙක් විදියට සම්බුද්ධ ශාසනයේ පිළිසරණ ලබන්න වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. අද ධර්ම දානය සිදු කරන පින්වත් චමල් සෙනෙවිරත්න මහතා, දිල්රුක්ෂි කපුකොටුව මහත්මිය සහ ලෙතුලි කියාරා සෙනෙවිරත්න ඒ දුව ඇතුළු පවුලේ හැමදෙනාගේ නමින්ම මිය ගියා වූ සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන් වෙලා ඒ ඥාතීන්ගේ පරලොව ජීවිතය ඒකාන්තයෙන්ම සැපයට පත්වෙත්වා කියන අදහසින්

ඥාතීන්ට පින් අනුමෝදන් කරන්න. ඒ වගේම මේ පින්වතුන්ලා සඳහන් කොට ඇති පරිදි ඉතාලියේ මිලානෝ මහමෙව්නා භාවනා අසපුවේ පින්වත් ස්වාමීන් වහන්සේලාටත් මේ සියලු පින් අනුමෝදන් වෙලා කිසීම කරදරයකින් බාධාවකින් තොරව ඒ අසපුවේ කටයුතු සුවසේ සාර්ථකව කරගන්න අවකාශ සැලසේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරලා පින් අනුමෝදන් කරමු. අද ධර්ම දානය සිදු කරන ඒ පින්වත් චමල් සෙනෙවිරත්න මහතා, ඉතාලියේ මිලානෝ නගරයේ වෙසෙන පින්වත් චමල් සෙනෙවිරත්න මහතා, දිල්රුක්ෂි කපුකොටුව මහත්මිය, ලිත්නුලි කියාරා සෙනෙවිරත්න දියණිය ඇතුළු ඒ පින්වතුන්ලාටත් සුජීවත්ව සිටින දෙමව්පියන් වන සෝමපාල කපුකොටුව පියාණන්ට, රෂිකා සෝමපාල මැණියන්ට, චිත්‍රලතා මාරසිංහ මැණියන්ට යන මේ පවුලේ හැමදෙනාට මේ සියලූම පින් අනුමෝදන් වෙත්වා. ශ්‍රද්ධා ධර්මදාන මාසික සාමාජික පින්වතුන්ලාටත් ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ හැමදෙනාටත් සුපින්වත් ඔබටත් පින් අනුමෝදන්ව, සියලු දෙනාට සියලු යහපත අභිවෘද්ධිය සැලසේවා. සුවසේ පින් රැස් කරගෙන සුවසේ දහම් මග දියුණු කරගෙන චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=0O7WmjX085E

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද දවසේ මේ උතුම් ධර්ම දේශනාවට අනුග්‍රහය දරනු ලබන්නේ 2021 මැයි මාසෙ 24 වෙනි දින කොරෝනා වෛරසය වැළඳීම හේතුවෙන් මියපරලොව යන්න හේතුවුනු පින්වත් ශීලා වික්‍රමසිංහ මැණියන්ට පින් පෙත් අනුමෝදනා කරන අදහසින් අංක 13, මවුන්ට් ප්ලෙසන්ට් වතුයාය, බෝවල වත්ත, මහනුවර යන ලිපිනයේ පදිංචි පින්වත් චමිලා අමරකෝන් සහ නිහාල් අමරකෝන් පවුලේ සියලුදෙනාත්, නො.23/240, යටිවාවල, කටුගස්තොට යන ලිපිනයේ පදිංචි පින්වත් කපිල සෙනෙවිරත්න සහ චන්ද්‍රිකා සෙනෙවිරත්න පවුලේ සැම සියලු දෙනා විසින් ඒ තමන්ගේ නමින් මියගියා වූ ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට පින් පෙත් අනුමෝදනා කරන අදහසින් අද දවසේ මේ උතුම් ධර්මදානමය පින සිද්ධ කරනවා පින්වතුනි. ජීවිතයට පින රැස් කරගැනීම කියලා කියන්නෙ අපි හැමදෙනාටම බොහොම වටින එකක්. බුදුරජාණන් වහන්සේ නිරන්තරයෙන් වර්ණනා කරපු එකක්, පින් කිරීම. භාග්‍යවතුන් වහන්සේ ධම්මපදයේදී වදාළා පුඤ්ඤං තෙ පුරිසො කයිරා - යම් කෙනෙක් තමන්ගේ ජීවිතයට පින් කරගත්තොත් කයිරා තේන පුනප්පුනං - ආයෙ ආයෙමත් ඒ විදියටම පින් කරගන්න ඕන. සිත කය වචනයෙන් මනුස්සයෙකුට පිනක් කරගන්න ලැබුනා කියන එක ජීවිතේ කවදාවත් අතහරින්න එපා. ආයෙ ආයෙමත් එබඳු පින්කම්ම කරගන්න. තම්හි ඡන්දං කයිරාථ - පින කිරීම ගැන විශාල කැමැත්තක් සතුටක් ආසාවක් මේ හිතේ ඇති කරගන්න. හේතුව සුඛො පුඤ්ඤස්ස උච්ඨයො - පින කියලා කියන්නෙ ජීවිතේට සැප උපද්දන දේ. ජීවිතේ සැපය සැපය කියලා අපි යමකට කියනවා නම් එය පිනටම කියන නමක්. පිනටම කියන තවත් නමක්, පින ගැන කතා කරනකොට අපි තේරුම් ගතයුතු දෙයක් මේ පින් කිරීම කියලා කියන්නෙ අපි ජීවිතේට සැපය හදාගන්නවා කියන එක. ඒ නිසාමයි භාග්‍යවතුන් වහන්සේ වදාළේ සුඛො පුඤ්ඤස්ස උච්ඡයො - පින යනු සැපයටම කියනා තවත් නමකි. අපි මේ ඉගෙන ගන්නෙ පින්වතුනි ඒ අමා නිවන් දුටු රහත් තෙරණී වරු, මේ දේශනා මාලාවේදී  අපි ඉගෙන ගන්නේ පින නිසා, රැස් කරන පින නිසා මේ ජීවිතය සම්පූර්ණයෙන් සැපවත් කරගත්ත ඒ අසිරිමත් ජීවිත, විශේෂයෙන් රහත් තෙරණීවරු කිව්වහම ඒ ස්ත්‍රීන් විදියට මේ මනුස්ස ලෝකෙ ඉපදිලා සම්මා සම්බුදුරජාණන් වහන්සේ කියන මහා කල්‍යාණමිත්‍ර රත්නයේ ඇසුරට පත්වෙලා මේ ස්ත්‍රී ජීවිතය තුළ දුකින් නිදහස් වෙච්චි උත්තමාවියො. මේ ස්ත්‍රී ජීවිතය තුළ දුකින් නිදහස් වුනා කියලා කියන්නෙ, ඒකට තමයි කියන්නෙ ජීවිතේ පරම සැපය. මේ ජීවිතය ඇතුලේ පරම සැපයට පත්වුනා ඒ

උත්තමාවියන්. ඒ කියන්නෙ ඒ උත්තමාවියො අර්හත්වය පසක් කරනකොට මේ දුක් කන්දරාවෙන්ම මිදුනානෙ. ඉපදීම හින්දා යම්තාක් දුක් තියෙනවාද, ඉපදිච්චි කෙනාට නාකිවීමේ දුක තියෙනවා, ලෙඩදුක් වැළඳීමේ දුක තියෙනවා, ඊළඟට ලෙඩදුක් පැතිරීගෙන, පැතිරීගෙන එනකොට මාත් ලෙඩවෙයිද කියලා හටගන්න බය තියෙනවා. තමන් මැරෙයිද කියලා හටගන්න බය තියෙනවා. මරණයට මුහුණදීමේ භය තියෙනවා. තමන් ආදරය කරන අය, ප්‍රියමනාප අය තමන්ගේ ඇස් පනාපිට වෙන්වෙලා යනකොට ඒක උහුලන්න වෙනවා. මේ හැමදේම මේ සංසාර ගමනේ ආයෙ ආයෙ ඉපදි ඉපදි යන්න වෙනකොට මේ දුක් කන්දරාව අපි හැමදෙනාටම උරුමයි. අපි මේ ඉගෙන ගන්න වාසනාවන්ත ජීවිත, ඒ ජීවිත පිනෙන්ම පිරී ගියා. ඒ පිනේ පිරී අවසානයේ පරම සැපය වන අර්හත්වයෙන් සැනසුනා. අපි අද ඉගෙන ගන්නෙ උත්තමා නමින් අර්හත්වයට පත්වෙච්චි තෙරණියකගේ ගාථා. ඒ තෙරණියගේ චරිතාපදානය ආරම්භ වෙන්නෙ කල්ප අනූ එකකට කලින්. මීට අනූ එක් කල්පයකට පෙර මේ ලෝකයට පහළ වුනේ විපස්සී අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ. විපස්සී බුදුරජාණන් වහන්සේ ඒ කාලෙ ලෝකයේ පහළ වෙලා ඒ බුදුරජාණන් වහන්සේ චතුරාර්ය සත්‍යය ධර්මය දේශනා කරනවා. මේ ලෝක සත්වයාට සංසාර ගමනේ තියෙන බිහිසුණු බව, මේ සසර කතරින් එතෙර වීම පිණිස කුමක්ද කළ යුත්තේ මේ ගැන භාග්‍යවතුන් වහන්සේ ඒ කාලෙ කියලා දුන්නා. ඒ බුදුරජාණන් වහන්සේ ඒ විදියට සද්ධර්මය දේශනා කරනකොට චතුරාර්ය සත්‍යය කියලා දුන්නා, සසරින් නිදහස් වීම පිණිස. ඊළඟට ජීවිතේට පින රැස් කරගන්න එකේ වටිනාකම බුදුරජාණන් වහන්සේ මනාව පහදලා දුන්නා. මේ බුදුවරුන්ගේ දේශනාවේ ස්වභාවය. හේතුව බුදුරජාණන් වහන්සේලා මහා කාරුණිකයි. බුදුරජාණන් වහන්සේලා සංසාර ගමනින් එතෙර වීම පිණිස පවතින චතුරාර්ය සත්‍යය ඇයි වදාරන්නේ, සසර බිහිසුණු නිසා. බිහිසුණු සසරින් මේ ලෝක සත්වයා එතෙර කරවන්න, බුදුරජාණන් වහන්සේ චතුරාර්ය සත්‍යය දේශනා කරනවා. හැබැයි හැම සත්වයෙකුටම චතුරාර්ය සත්‍යය කතාව අහන්න ලැබෙද්දීම, ඒ චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්න තරම් මහා ඥාණයක් නෑ. හැමෝටම එච්චර තීක්ෂණ ප්‍රඥාවක් නෑ, චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්නවා කියන එක තියුණු ප්‍රඥාවකින් කළ යුතු දෙයක්. ඒ තියුණු ප්‍රඥාව එකපාර කෙනෙකුට පිහිටන් නෑ, ධර්මය අහන්න ලැබෙනකොට මහා පින් බලයක් තිබුනු අයට ඒ ප්‍රඥා ඉන්ද්‍රිය මෝරලා තිබුනු අයට ඉක්මණින් ධර්මය අවබෝධ වුනා. එතකොට අනිත් අයට බුදුරජාණන්

වහන්සේගේ පිහිට නැද්ද. අනිත් අයට මේ ලැබිච්චි බුදුරජාණන් වහන්සේ මුණ ගැහිලා ලැබිච්චි කල්‍යාණමිත්‍ර ඇසුර, සත්පුරුෂ ඇසුර ඒ වාසනාව රැකගැනීම පිණිස පින ඕන. ඒ වාසනාව අඛණ්ඩව රැකගෙන තබා ගැනීමට පින ඕන. පිනෙන් තමයි ඒ වාසනාව රැකලා දෙන්නෙ. ආන්න ඒ නිසා බුදුරජාණන් වහන්සේලා පින ගැනද වදාරන සේක. එතකොට බුදුරජාණන් වහන්සේලාමයි පින ගැන වදාරන්නෙ බුදුරජාණන් වහන්සේලාමයි කුසලය ගැන වදාරන්නෙත්, බුදුරජාණන් වහන්සේලාමයි සසර ගැන වදාරන්නෙත්, බුදුරජාණන් වහන්සේලාමයි සංසාර දුකින් නිදහස් වීම ගැන වදාරන්නෙත්. හේතුව බුදුරජාණන් වහන්සේලා මහා කාරුණික නිසා. ඉතින් මේ අර්ථය හොඳට පහදාගත යුතු දෙයක්. මේ අර්ථය පහදාගත්තෙ නැත්නම් මහා කාරුණික බුදුරජාණන් වහන්සේගේ ධර්මය, ධර්මය කියලා අසත්පුරුෂයො කියන පණ්ඩිතමානී කතාවලට අහුවෙලා බුද්ධ ශාසනය ඇතුලේ සළසාගන්න තියෙන යහපත අහිමි වෙලා යනවා. ඒ නිසා පින්වතුනි හොඳට තේරුම් ගන්න ඕන දැන් එකලත් අපේ විපස්සී බුදුරජාණන් වහන්සේ පහළ වෙලා ඒ බුදුරජාණන් වහන්සේ චතුරාර්ය සත්‍යයක් දේශනා කලා, පින ගැනත් දේශනා කලා. එතකොට මේ උත්තමා තෙරණිය ඒ කාලයේ බන්ධුමතී කියන රාජධානියේ බන්ධුම කියලා මහරජෙක් හිටියා, ඒ මහරජ්ජුරුවන්ගේ රජ වාසලේ කුම්බදාසියක් කියලා කියනවා. ඒ කුම්බදාසිය කියලා කියෙන්න කලින් වතුර ඇදලා රජ පවුලේ පිරිසට පහසුව සලසන නිසා. ඉතින් ඒක ව්‍යවහාරයට ගත්ත එකක්, කුම්බදාසී කියලා තමයි කියලා තියෙන්නෙ. කුම්බදාසියක් විදියට රජුගේ රජවාසල සේවා කටයුතු කරපු කෙනෙක් තමයි මැය. ඉතින් මේ කාලෙ වෙනකොට බන්ධුම රජතුමා ඇතුළු රාජකීය පිරිස විපස්සී බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පැහැදිලා. ඒ රාජකීය පිරිස එකදිගට පින් කර කර එක දිගට ගුණධර්ම රැක රැක හිටපු පිරිසක්. දැන් ඒ රාජකීය පිරිසටම එකතු වෙච්චි දාසියක් විදියට හරි රාජකීය පිරිසත් එක්ක හිටපු කෙනානෙ මැය. දැන් මැයටත් හිතක් උපදිනවා පින කරන්න. දැන් බලන්න ඇය හිතලා තියෙන විදිය. රජ සහිත සේනාව දකිද්දි මට මෙහෙම හිතුනා. ඇ ආපදාන පෙලේදී කියනවා ඒ රාජකීය සේනාව දකිද්දි මෙහෙම හිතුනා කියනවා. රජතුමා ද රාජ්‍යය කෙරෙහි තියෙන හැඟීම් රාජ්‍ය උන්මාදය අත්හැරලා දාලා උතුම් පෙහෙවස් සමාදන් වෙවී ගුණ පුරන්න ගත්තේය. අමාත්‍යවරුද මේ මහා රාජකීය සම්පත්තිය, රජුගේ ආනුභාවය, මේවාට වසඟ නොවී පෙහෙවස් සමාදන් වෙලා ගුණ පුරන්නේය. රජුගේ බිසෝවරු පිරිසද, රජුගෙන් ලැබෙන සත්කාර සම්මාන මැද ඒවාට

මත්වෙවී නොසිට ගුණ පුරන්නේය. එහෙව් එකේ මං මොකියක්ද. අන්න එහෙම හිතුවා කියනවා. මේ රාජකීය පිරිසත් එහෙම නම් රජ්ජුරුවන්ගේ නිවසේ දාසියක් වන මං මොකියක්ද. රජවරුත් අමාත්‍යවරුත් බිසෝවරුත් උපෝසථ සිල් රකිනවා නම්, නිති පන්සිල් රකිනවා නම් සිත කය වචනයෙන් පින් කරනවා නම් ඒ රාජකීය පිරිසත්, මං මොකියක්ද. මාත් එසේ නම් මගේ ජීවිතයේ පුළු පුළුවන් විදියට ගුණ පිරිය යුත්තේය. ඈ අධිෂ්ටාන කලේ පෙහෙවස් සමාදන් වීම ගැන. පෙහෙවස් සමාදන් වීම කියන එක, එහෙම නැත්නම් උපෝසථය සමාදන් වෙනවා කියන එක, එහෙම නැත්නම් පොහොය අටසිල් සමාදන් වෙනවා කියන එක පින්වතුනේ මේ ජීවිතේ අපිට කරගන්න තියෙන වටින දෙයක්. ගිහි ජීවිතයක් ගත කරන උපාසක උපාසිකාවො විදියට ඔබට බොහෝම වටින එකක්, උපෝසථ සිල් ආරක්ෂා කරන එක. ඒකට සාමාන්‍යයෙන් අපි ව්‍යවහාරයේදී කියනවා අධි සීල කියලා. ගිහි කෙනාගෙ අධිසීලය. ගිහි කෙනා සාමාන්‍යයෙන් අධි සීලයේ හික්මෙන්න යොදාගන්නෙ පුර පෝය දවස. පූර්ණ චන්ද්‍රයා නැගෙන දවස, පුන්පොහෝ දවස තමයි ගිහි කෙනා උපෝසථ සිල් සමාදන් වෙන්න යොදාගන්න දවස. ඔබ හිතන්න අපි අවුරුදු දහයක කාලයක් ඇතුලේ සලකලා බැලුවොත් අවුරුදු දහයකට එක අවුරුද්දකට මාස 12 ගානෙ, අවුරුදු දහයකට මාස තියෙන්නෙ එකසිය විස්සක්. ඔය මාස එකසිය විස්සට පුරපෝය දවස් යෙදෙන්නෙ එකසිය විස්සක්. එතකොට අවුරුදු දහයක ජීවිත කාලය ඇතුලේ කෙනෙක් එක දිගට උපෝසථය ආරක්ෂා කලත්, ඒ කියන්නෙ හැම පෝයටම අරගත්තත් එයාට ජීවිත කතාව ඇතුලේ එකසිය විසි වතාවයි උපෝසථ සිල් ආරක්ෂා කරන්න අවස්ථාව ලැබෙන්නෙ. අවුරුද්දක් ගතවෙනකොට අවුරුද්දේම හැම පෝයටම සිල් ගත්තත් ඔබ සිල් අරන් තියෙන්නෙ දවස් දොළහයි. එතකොට පේනවා නේද, අධිසීලයේ කියන එකේ අපි හික්මෙන්න අධිසීලයේ ගිහි කෙනෙක් හික්මෙනකොට ඒ අධිසීලයට එළඹෙන්නත් අවකාශය කොච්චර අඩුවෙන්ද එයාට තියෙන්නෙ. එහෙම තියෙද්දිත් හැමපෝයටම සිල් ගන්න අය ගත්තත් කීයෙන් කීදෙනාද පින්වතුනි හැම පෝයටම සිල් ගන්නෙ. එහෙම නෑ, එහෙම නෑ බොහෝ දෙනෙක්. හේතුව මේකෙ වටිනාකම නොදන්නා නිසා. එක අවස්ථාවක සක්දෙවිඳු තම දේව පිරිසට කියනවා දෙවිවරුනි යම් කෙනෙක් මං වගේ වෙන්න කැමැති නම්, ඒ කෙනා කරන්න ඕන හතරපෝයටම උපෝසථ සිල් ගන්න එකයි. එහෙම කිව්වෙ කවුද, සක්දෙවිඳු. බුදුරජාණන් වහන්සේ තමයි වදාළේ මහණෙනි ඔහොම කිව්වා දවසක් සක්දෙවිඳු. හැබැයි මං නෙවෙයි, ඔය ගාථාව සක්දෙවිඳුට

වැරදුනා. සක්දෙවිඳු ඔය කිව්ව ගාථාව හරි එකක් නෙවෙයි. හරියටම නම් කියන්න ඕන සක්දෙවිඳු නෙවෙයි. ඕක හරියට නම් කිවයුත්තේ මහණෙනි, රහතන් වහන්සේ නමක්. ක්ෂීණාස්‍රව භික්ෂුවක් කිව්වා නම් අන්න ඒක තමයි සුදුසුම එක. යම් කෙනෙක් මං වගේ වෙන්න කැමැති නම් ඒ කෙනා කළ යුත්තේ හතර පෝයට සිල් ගන්න එක. එතකොට බලන්න සීලයේ තියෙන ආනුභාවය. කීණාස්‍රවයන් වහන්සේ නමක් කිව්වා නම් සුදුසුයි කිව්වා යමෙක් අර්හත්වයට පත්වෙන්න කැමැති නම් ඒ කෙනා කළ යුත්තේ ජීවිතේ හතර පෝයට සිල් ගන්න එක. ඒ නිසා උත්සාහවත් වෙන්න. තමන්ගේ ජීවිතේ අධිසීලයක හික්මෙන්න. අධිසීලය කියන උපෝසථයේ හික්මෙනවා කියන එක ජීවිතයට බොහෝ උපකාරී වෙන එකක් බව මේ සිදුවීම කියවනකොට අපිට තේරෙනවා. පින්වතුනි අපි අපේ ජීවිතයට පින් රැස් කරගත්තොත් ඉතා අවිනිශ්චිත ජීවිතේ ඒ පිනමයි අපිට පිහිට. වෙන දෙයක් නම් අපිට පිහිට පිණිස පවතින්නේ නැත. ඒක හොඳට තේරුම් අරගෙන මේ ජීවිත යාත්‍රාව වේගයෙන් ගෙනයනවා. මේ ජීවිත යාත්‍රාව වේගයෙන් ඇදෙනවා. නොදැනීම රෑ වෙනවා, නොදැනීම දවල් වෙනවා. අපිට එක එක කටයුතු යෙදෙනවා, ඒවා අතරේ වේගයෙන් ගමන් කරනවා මේ ජීවිත යාත්‍රාව ජීවන ගමනේ ඇදෙනවා. වේගයෙන් ඇදෙනවා කොහාටද ඇදනේනෙ. මරණයට. වෙන කොහේටවත් නෙවෙයි මේ ජීවිත යාත්‍රාව යොමුවෙලා තියෙන්නෙ. මේක යොමුවෙන්නෙ මරණයට. හැබැයි ඒ මරණය කියන කෙළවර කොතනද තියෙන්නෙ කියලා කවුරුත් දන්නෙ නෑ. අපේ ජීවිත යාත්‍රාව මරණය සමීපයට ඇවිල්ලාද, තවටික කාලයක් තියෙනවාද, ඒක අපි කවුරුවත් දන්නෙ නෑ. මේ හොඳට ඉන්නවා, ඊළඟ මොහොතේ අපි කරා මරණය එනවා. ඒ එන්න පෙර තමයි මේ කතාව තුළ තියෙන පින රැස් කිරීම කියන එක අපිට කරගන්න අවකාශ තියෙන්නෙ. ඒ නිසා අතහැර ගන්න එපා පින් කරගන්න තියෙන අවස්ථාව. හොඳට පින් රැස් කරගන්න, දැන් මේ කුම්බදාසියක් රජගෙදරක හිටපු දාසි කෙල්ලක් උපෝසථ සිල් සමාදන් වෙලා පින රැස් කරගෙන ඒ රැස් කරගත්ත පිනෙන්, මීට අනූ එක් කල්පයකට පෙර රැස් කරගත්තු පිනෙන් අනූ එක් කල්පයක් පුරා දුගතියේ ගියෙ නෑ කියනවා. අන්න ආරක්ෂාව. ඒකට තමයි කියන්නෙ ආරක්ෂාව කියලා. අනූ එක් කල්පයක් ඇතුලේ දුගතියක නොගියා කියන එක පින්වතුනි ඒක සුලුපටු කතාවක් නෙවෙයි. කල්ප අනු එකක් දුගතියට යන්නෑ කියන එක, ඒක සාමාන්‍ය සුලු කතාවක් නෙවෙයි. අනූ එක් කල්පයක් කියලා කියන්නෙ කොයි තරම් දීර්ඝ කාලයක්ද. කල්පය ගැන භාග්‍යවතුන් වහන්සේ වදාරනකොට බුදුරජාණන්

වහන්සේ දේශනා කලේ කල්පයක දිග අවුරුදු සීයේ කලාවෙන්, දහසේ කලාවෙන්, ලක්ෂයේ කලාවෙන්, කෝටියේ කලාවෙන් පෙන්වන්න බෑ. අවුරුදු කෝටි මෙච්චරක්, අවුරුදු ලක්ෂ මෙච්චරක්, එහෙම කියන්න බෑ. එච්චර දීර්ඝ කල්ප ගාණක් සතර අපායට ගියෙ නෑ. ඇයි යන්නෙ නැතිව රැකෙන්න හේතුව? පින. පින රැස් කිරීම. දාසි කෙල්ලක් විදියට දන් දීලා පින් කරගන්න විදියක් තිබ්බෙ නෑ, දාසියක්. තමනුත් අමාරුවෙන් යැපෙන්නෙ. ලොකුවට දානමාන දීගන්න බැරිව ගියා. හැබැයි ඇය බුදුරජාණන් වහන්සේට වන්දනා කර කර ධර්මයට සඟරුවනට සත්කාර කර කර තමන්ට කරගන්න පුලුවන් දේ කරගත්තා. සීලවන්ත වුනා. නිති පන්සිල් ආරක්ෂා කලා, හතර පෝයට උපෝසථ සිල් ආරක්ෂා කලා. මේ උපෝසථය කියන එක හරි ආනුභාව එකක්. මං මේ අද උපෝසථය ආරක්ෂා කරගෙන ඒ උපෝසථ සීලයේ පින් බලයෙන් කෙලෙස් නැසීම දක්වා ආපු මහා පින්වන්ත උත්තමාවියකගේ කතාව ඉගෙන ගන්න නිසා මං කල්පනා කලා උපෝසථයේ මහිමය ඔබට ටිකක් විස්තර කරන්න, මොකද අපේ භාග්‍යවතුන් වහන්සේ උපෝසථය ගැන විශාඛා කියන මහා උපාසිකාවට පැහැදිලි කරලා කියලා දුන්නානෙ. මේ විශාඛා මහෝපාසිකාව භාග්‍යවතුන් වහන්සේ ඒ කාලයේ මිගාරමාතු ප්‍රාසාදයේ වැඩ ඉද්දි දහවල් කාලයේ බුදුරජාණන් වහන්සේ බැහැදකින්න එනවා. එදා පෝය දවසක්. ඉතින් බුදුරජාණන් වහන්සේ ළඟට ආවහම භාග්‍යවතුන් වහන්සේ ඇහුවා විශාඛා ඔබ මේ කොහේසිට එන ගමන්ද. ස්වාමීනී මං අද පෙහෙවස් සමාදන් වුනා. ඒ අනුව මං හික්මෙනවා. අන්න ඒ වෙලාවේ බුදුරජාණන් වහන්සේ විශාඛාවට උපෝසථ සීලයේ තියෙන වටිනාකම ගැන ආර්යය උපෝසථය කියන එක ගැන හොඳට පැහැදිලි කරලා දුන්නා. බුදුරජාණන් වහන්සේ දේශනා කලා සුඛො සෝ විසාකේ යාව කෝ ඉත්ථී පටිසංචිත්ති, විශාඛාවෙනි, බුදුරජාණන් වහන්සේ සරණ ගිය, ධර්මය සරණ ගිය, සඟරුවන සරණ ගියපු ශ්‍රාවකයා හෝ ශ්‍රාවිකාව උපෝසථ සිල් සමාදන් වෙද්දි මෙහෙමයි හිතන්නෙ. යාව ජීවං අරහන්තො පාණාතිපාතං පහාය පාණාතිපාතා පටිවිරතා - ජීවිත කාලෙ පුරාවටම රහතන් වහන්සේලා වාසය කලේ ප්‍රාණඝාතයෙන් වැළකිලා, ප්‍රාණඝාතය අත්හැරලා. නිහිත දන්ඩ නිහිත සත්තා - උන්වහන්සේලා සතුන් මැරීම පිණිස දඬු අරගත්තේ නෑ. ආයුධ අරගත්තෙ නෑ. ලජ්ජී දයාපන්නා - උන්වහන්සේලා ප්‍රාණඝාතය කියන එකට ලැජ්ජාවෙන් වාසය කලා. සතුන් කෙරෙහි දයාවෙන් වාසය කලා. සබ්බ පානි භූත හිතානුකම්පී විහරන්ති - මේ ප්‍රාණභූතයන් කෙරෙහි පණ තියෙන හැම සතුන් කෙරෙහි

අනුකම්පාවෙන් උන්වහන්සේලා වැඩ හිටියා. අහම්ජ්ජෙයි මජ්ජ අත්ති ඉමංච දිවසං - ඒ නිසා මම මේ දහවලත්, මේ රැයත්, ගොඩාක් වරද්දගත්ත එකක්නෙ මේ උපෝසථ සමාදන් වෙනකොට. ගොඩාක් අය උපෝසථය සමාදන් වෙන්නෙ භාගෙට. උදේ සමාදන් වෙනවා, හවස මුදනවා. එතකොට එහෙම නෙවෙයි ශ්‍රාවකයා උපෝසථ සිල් සමාදන් වෙන්නෙ. එක දවසක් සම්පූර්ණයෙන් වෙන් කරන්න. ඒ නිසා මම මේ රැයත් මේ දහවලත් පාණාතිපාතං පහාය පාණාතිපාතා පටිවිරතො, ප්‍රාණඝාතය අත්හැරලා ප්‍රාණඝාතයෙන් වැළකී ඉන්නවා. නිහිත දණ්ඩො නිහිත සත්තො - රහතන් වහන්සේලා සතුන් මැරීම පිණිස දඬු මුගුරු නොගත්තා සේ අවිආයුධ නොගත්තා සේ මාත් ඒවා නොගෙන ඉන්නවා. ලජ්ජී දයාපන්නො සබ්බ පාණ භූත හිතානුකම්පී විහරාමි - හැම සත්වයන් කෙරෙහිම දයාවෙන් අනුකම්පාවෙන් යුක්තව සතුන් මැරීමට ලැජ්ජා වෙලා මං ඉන්නවා. ඉමිනා පහං අංගේන අරහතං අනුකරෝමි - මේ අංගයෙන් මං ඒ උතුම් රහතන් වහන්සේලාව අනුකරණය කරනවා, අනුගමනය කරනවා. රහතුන් අනුව කටයුතු කරනවා. අන්න එහෙම තමයි කියනවා ශ්‍රාවකයෙක් මේ ජීවිතය තුළ උපෝසථ සිල් සමාදන් වෙද්දි හිතන්නෙ. ඉතින් මේක බොහොම වටින එකක් පින්වතුනි. ඒකට හේතුව මේක වටිනවා කියලා කියන්න හේතුව, මේකෙන් මේ විදියට උපෝසථය සමාදන් වීමෙන් පුදුමාකාර සැපක් හිතට උපදිනවා. ඒකට හේතුව එයා මේ උපෝසථ සිල් සමාදන් වෙන්නෙ මේ ජීවිතේ පරම සැපයට පත්වෙච්චි ඒ උත්තමයන් අනුව කටයුතු කරන්න අහිංසක අදහසකින්. ඉතින් ඒකෙන් එයා සතුටක් ලබනවා. මං මේ රෑ දහවල් දෙකේ රහතන් වහන්සේලා අනුව හිටියා. රහතන් වහන්සේලා ජීවිත කාලෙම යම් විදියකට හිටියාද, අනේ මං එක රෑ දහවලක් ඒ විදියට හිටියා. අන්න එහෙම සිහි කර කර තමයි උපෝසථය කියන එක සමාදන් වෙන්නෙ. යාවජීවං අරහංතො අදින්නං දානං පහාය අදින්නාදානා පටිවිරතා - ජීවිත කාලෙම ඒ රහතන් වහන්සේලා හොරකම අත්හැරලා හොරකමින් වැළකුනා. දින්නාදායී අදින්න පාටිකං - නොදුන්න දේවල් අරගත්තෙ නෑ, දුන්න දේවල් විතරයි. කවුරුහරි පරිත්‍යාග කරපු දන් දීපු දෙයක් විතරයි උන්වහන්සේලා ගත්තෙ. අතේ නේන සුචිචි භූතේන අත්තනා විහරංති - සොර සිතක් නැතිව පිරිසිදු සිතින් උන්වහන්සේලා ජීවත් වුනා. අහමංච - ඉතින් මාත් මේ රෑ දවල් දෙකේ සොරකමින් වැළකීම නම් වූ සිල් පදය සමාදන් වෙනවා, සමාදන් වෙලා සොර සිතක් නැතිව පිරිසිදු සිතින් මං වාසය කරනවා, කුමක් උදෙසාද. ඒ අංගයෙන් රහතන් වහන්සේලා අනුගමනය කරමින්. අන්න එහෙම තමයි සිල් සමාදන්

වෙන්නෙ උපෝසථ සීලය. යාවජීවං අරහංතො අබ්‍රහ්මචරියං පහාය බ්‍රහ්මචාරී - ජීවිත කාලෙම ඒ උතුම් රහතන් වහන්සේලා අබ්‍රහ්මචාරී බව බැහැර කරලා බ්‍රහ්මචාරී වුනා. බ්‍රහ්මචාරීව ඒ උත්තමයො ආරාචාරී විරතං මේතුනා ගාමධම්මා - ලාමක දෙයක් වුන මෛථුන සේවනයෙන් වැළකිලා වාසය කලා. ඉතින් මමත් මේ රෑ දහවල් දෙක රහතන් වහන්සේලා අනුව කටයුතු කරමින් බ්‍රහ්මචාරී වෙනවා. ඔන්න සිල් සමාදන් වෙනවා. යාවජීවං අරහංතො මුසාවාදං පහාය මුසාවාදා පටිවිරතා - ජීවිත කාලෙම රහතන් වහන්සේලා බොරු කීමෙන් වැළකී බොරු කීම අත්හැරියා. සච්චවාදී - සත්‍ය කතා කලා. සච්චසන්ධා - සත්‍යය කතා කිරීමට කැමැති වුනා. සත්‍යය සත්‍යය ගැලපුවා. ත්ථේා පච්චෙයිකා - උන්වහන්සේලා ස්ථිර කතා, ඇදහිය යුතු කතා, ඇතිව වාසය කලා. අවිසං වාදකා ලෝකස්ස - ලෝකයේ අර්බුද හටගන්න කිසිම කතාවක් ඒ උතුම් රහතන් වහන්සේලා නොකරන ලද්දේය. අහමජ්ජ - ඒ නිසා මමත් අද දවසේ ඉමංචරත්තිං ඉමංචදිවසං - මේ රෑ දහවල් දෙක බොරුවෙන් වළකින්න ඕන. මං ඒ සත්‍යය කතා කරනවා, ඔන්න සමාදන් වුනා. ඒ සමාදන් වුනේ රහතන් වහන්සේලා ජීවිත කාලෙම කරපු එක මං අද දවසේ කරනවා. ඉතින් ඕකට හොඳ අදහසක්, මේක හිතට අරගන්න. හිතට අරගෙන පින්වතුනේ අපි අපේ ජීවිතය තුළත් මේන්න මේ විදියට උපෝසථ සිල් සමාදන් වෙලා, ඒ දවසේ රහතන් වහන්සේලා අනුගමනය කිරීමක් විදියට බොහෝම ආසාවෙන් බොහොම සතුටින් ගත කරන්න ඕන. එතකොට අපේ ජීවිතයට ඒකෙන් ඒ කියන්නෙ සීලය ආරක්ෂා කිරීම නිසා ලබන පුදුමාකාර සතුට අපේ ජීවිතයට එකතු කරගන්න පුලුවන්. යාවජීවං අරහංතො සුරාමේරය මජ්ජපමා දට්ඨානං පහාය - ජීවිත කාලෙම රහතන් වහන්සේලා සුරාමේරය මත්පැන් මත්ද්‍රව්‍ය පාවිච්චි කිරීමෙන් වැළකුනා, සුරාමේරය මජ්ජපමා දට්ඨානා පටිවිරතා - මත්පැන් මත්ද්‍රව්‍ය භාවිතය අත්හැරියා. ඉතින් මමත් ඒ රහතන් වහන්සේලාව අනුගමනය කරලා රහතුන් අනුව යමින් අද මේ දහවල් රෑ දෙකේ සුරාමේරය පානය කිරීමෙන් වළකිනවා, එහෙම සමාදන් වෙනවා. යාවජීවං අරහන්තො ඒක භත්තිකා රූප රතා විරතා විකාල භෝජනා - රහතන් වහන්සේලා දිවි හිමියෙන් උදේ වරුවේ විතරක් වළඳමින් රාත්‍රී ආහාරයෙන් වැළකිලා, විකාල භෝජනයෙන් වැළකිලයි වාසය කලේ. රහතන් වහන්සේලා ජීවිත කාලෙම ඉර අවරට ගියාට පස්සෙ ආහාර අනුභව කරලා නෑ, ඉතින් මං අද දවසේ මේ රෑය මේ දහවල මේ කාල දෙකේ මං රහතන් වහන්සේලා අනුව කටයුතු කරනවා. මමත් විකාල භෝජනයෙන් වළකිනවා. අන්න එහෙමයි සමාදන් වෙන්නෙ. දැන්

කෙනෙක් අර්ධ උපෝසථයක් අරගත්තොත්, භාගෙට ගත්තොත් ඒ කෙනාට මේ සතුට ලබාගන්න බැරිව යනවා. රාත්‍රී කාලයේ සමහර වෙලාවට හැමදාම ආහාර අනුභව කරලා හුරු කෙනාට එක දවසක් රෑ ආහාරය, දවල් දොළහෙන් පස්සෙ ආහාරය නොගෙන ඉන්නෙකාට කුසගිනි වේදනා ආදිය දැනෙන්න පුලුවන්. ඒ කුසගිනි වේදනා ආදිය දැනෙනකොට අනේ රහතන් වහන්සේලාව සිහි කලොත්. රහතන් වහන්සේලා ජීවිත කාලෙම මේ උදෑසන කාලෙ වළඳලා, ඉර අවරට ගියාට පස්සෙ යළි ඊළඟ දවසේ අරුණෝදය වෙනකල් වැළඳුවෙ නෑනෙ. අද මට කුසගිනි වේදනා එන්න පුලුවන්. නමුත් මං පොඩි ගිලන්පස එකක් වළඳලා, පළතුරු යුෂ ටිකක් එහෙම නැත්නම් තේ කහට එකක්, මොනවහරි පොඩ්ඩක් වළඳලා මාත් රහතන් වහන්සේලා අනුව ඉන්නවා. අන්න එතකොට නේද එයාට ඒ සතුට දැනෙන්නෙ. ඒ නිසා රහතන් වහන්සේලා අනුව යමින්. මේක පැහැදිලිව දේශනාවෙ තියෙනවා ඉමිනා පහං අංගේන අරහතං අනුකරෝමි - මේ අංගය හින්දා මං රහතන් වහන්සේලා අනුව යමි. යාවජීවං අරහංතො නච්චගීත වාදිත විසූක දස්සන මාලා ගන්ධ විලේපන ධාරණ මණ්ඩන විභූෂනට්ඨානා පටිවිරතා - ජීවිත කාලෙම රහතන් වහන්සේලා නැටුම් ගැයුම් වැයුම් විකාර දේවල් නැරඹීම් මල් සුවඳ විලවුන් ආදිය දැරීම්, විසිතුරු වස්ත්‍රාභරණයෙන් සැරසීම් ආදියෙන් වැළකී වාසය කලා. ඉතින් මමත් අද මේ රෑ දහවල් දෙකේ ඕවගෙන් වළකිනවා. ඔන්න සිල්පද හතයි. යාවජීවං අරහං තො උච්චාසයන මහාසයනං පහාය, උච්චාසයන මහාසයනා පටිවිරතා නීචසෙය්‍යං කප්පෙති මඤ්චකේවා තිනසත්තාරකේවා - රහතන් වහන්සේලා දිවිහිමියෙන් ජීවිතය තියෙන තාක් උසස් ආසන මහා ආසන අත්හැරලා වටිනා උසස් ආසන, මහා ආසන පරිහරණයෙන් වැළකිලා ඇඳක හෝ පැදුරක හෝ කුඩා ආසනවලයි උන්වහන්සසේලා සැතපුනේ. ඉතින් මාත් මේ රෑ දහවලේ ඔන්න ඔය විදියට ජීවත් වෙනවා. ඉතින් ඒක තමයි මේ උපෝසථය සමාදන් වෙන පිළිවෙල. ඔය විදියට උපෝසථය සමාදන් වුනොත් ඒවං උපවුත්ථො කො විසාකේ අරියුපුස්සුතයේ මහත්ඵලො හොති මහානිසංසො යුතිකො මහාවිප්පාරො, බලන්න භාග්‍යවතුන් වහන්සේ වදාරන විදිය. විශාඛාවෙනි, ඔය විදියට ආර්ය උපෝසථයේ වාසය කිරීම මහත්ඵලයි, මහානිසංසයි, ඒ පින මහා බැබළීමෙන් යුක්තයි. ඒක මහා පිනක්. කොපමණ මහත්ඵල ද, කොපමණ මහානිසංස ද, කොපමණ මහා බැබළීම් ඇති ද, කොපමණ මහා පිනක්ද, බුදුරජාණන් වහන්සේම තේරුවා. විශාඛාවෙනි මේ වගේ. යම් කෙනෙක් බොහෝ රන් රුවන් වලින් පිරුනු ඉසුරුමත් බව අධිපති කොට ඇති මේ අංග

මගධ කාසි කෝසල වජ්ජී මල්ල චේති වංග කුරු පංචාල මච්ඡ සූරසේන අස්සක අවන්ති ගන්ධාර කම්බෝජ කියන සොළොස් මහා ජනපද, එහෙම නැත්නම් මේ කියන්නෙ මොකක්ද, දඹදිවටම. දඹදිවටම අධිපති වෙලා මේ මහා ජනපදවල අධිපතියා විදියට කෙනෙක් රජකම් කරනවා කියමු. ඒ රජකම, ඒ මහා රජකම අෂ්ටාංග උපොසථ සීල සමාදානයේ සොළොස්වෙනි පංගුව තරම් වත් වටින් නෑ. අෂ්ටාංග උපෝසථ සීලය එක රෑ දහවලක් සමාදන් වෙලා ආරක්ෂා කරන එකේ වටිනාකමෙන් දාසයෙන් පංගුවක් වත් වටින් නෑ කිව්වා මුළු දඹදිවටම රජවීම. ඒ දඹදිවටම රජ වෙලා ලබන රජ සැපය මරණයෙන් ඉවරයි. දඹදිවටම රජ වෙලා දඹදිවම ඒකඡත්‍ර කරගෙන රජ කරපු රජවරු හිටියේ නැද්ද, මහා රජවරු හිටියෙ නැද්ද. රජවරු හැමෝම අනිත්‍ය වෙලා ගියා. ඒ රජවරු අනිත්‍ය වෙලා යනකොට පින්වතුනේ ඒ රජවරුන්ට ඔක්කොම අහිමියි. ඉන්නකල් ජනපද වල අයිතිය තිබුනා. ඉන්නකල් ධනය තිබුනා, ඉන්නකල් පිරිවර අයිතිය තිබුනා. මැරිලා යනකොට ඔක්කොම දාලා යන්න වෙනවා. මොකුත් අරන් යන්නෑ, මොකුත් අරගෙන යන්නෑ, එසේ මොකුත් අරගෙන යන්නේ නැති බව හැමෝටම ප්‍රකට කතාවක්, ඒක අමුතුවෙන් විස්තර කල යුතු එකක් නෙවෙයි. අපිට කිසිවක් අරගෙන යන්න බෑ. ඒ දාලා යන දේ වෙනුවෙන් තමයි මේ හැමදෙයක්ම මහන්සි වෙවී මිනිස්සු කරන්නෙ. කරලා කරලා ඒ ඔක්කොම මෙහෙ දාලා යනවා. හැබැයි කෙනෙක් උපෝසථය ආරක්ෂා කලොත් ඒ උපොසථය රැකීමේ වටිනාකම එයාට අරගෙන යන්න පුලුවන්. ඒකට හේතුව මොකක්ද විශාඛාවෙනි, දිව්‍ය සැපයත් එක්ක සසඳා බලද්දි මේ මනුස්ස ලෝකයේ රජ සැප කියලා කියන්නෙ බොහෝම පුංචි සැපක්. විශාඛාවෙනි, මනුස්ස ආයුෂ වලින් අවුරුදු පනහක් චාතුම්මහාරාජික දෙවිවරුන්ට එක රැයක් සහ එක දහවලක්. චාතුම්මහාරාජිකය කියන දිව්‍ය ලෝකයේ ඉන්න දෙවිවරුන්ට මේ මනුස්ස ලෝකෙ ආයුෂ වලින් අවුරුදු පනහක් ගතවෙද්දි තමයි එක රෑ දහවලක් ගෙවී යන්නෙ. ඒ වගේ රාත්‍රීන් තිහකින් තමයි ඒ අයට මාසයක් එළඹෙන්නෙ. ඒ වගේ මාස වලින් දොළහක් එකතු වුනාමයි, චාතුම්මහාරාජිකයට අවුරුද්දක් ලබන්නේ. චාතුම්මහාරාජික දෙවිවරුන්ගේ ආයුෂ ප්‍රමාණය ඒ අවුරුදු වලින් පන්සීයක් වෙනවා. පින්වත් විශාඛාවෙනි, යම් කිසි ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් හෝ අෂ්ටාංග උපෝසථ සීලය සමාදන් වෙලා ඒ සිල් ආරක්ෂා කලොත් එයා කය බිඳිලා මියපරලොව ගිහින් මේ චාතුම්මහාරාජිකයේ යනවා කියන එක දකින්න පුලුවන් දෙයක්, මේ කාගේ වචනද? තුන්ලෝකාග්‍ර භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ වචනයි. මේ

සම්බුද්ධ ශාසනයේ විශාඛා නම් වූ මහෝපාසිකාවටයි බුදුරජුන් මේ උතුම් ධර්මය දේශනා කරන්නෙ. මේ දිව්‍ය ලෝකය ගැන කියලා දෙන්නෙ භාග්‍යවතුන් වහන්සේ. එතකොට බුදුරජාණන් වහන්සේ මේ දේශනා කරන්නෙ විශාඛාවෙනි උපෝසථ සීලය සමාදන් වෙලා මේ චාතුම්මහාරාජිකයෙ ගිහිල්ලා එහේ තියෙන කාම සැපයෙන් මත්වෙලා සංසාරෙ දික් කරගන්න කියනවා නෙවෙයි, මේ තියෙන ආරක්ෂාව, මනුස්ස ලෝකෙ ඇතුලේ අවිනිශ්චිත ජීවිතයක්, කොයි වෙලේ මැරිලා යයිද, ඒ මැරිලා යනකොට සම්බුද්ධ ශාසනයේ දහමේ හැසිරෙන පිළිසරණ නසා නොගන්නයි මේ අවවාදය. බුදුරජාණන් වහන්සේ වදාරනවා විශාඛාවෙනි මේ උපෝසථය සමාදන් වෙන කෙනාට තමයි චාතුම්මහාරාජිකයේ යනවා කියන එක ලැබිය හැක්කෙ. මනුස්ස ලෝකෙ රජකම් කලා කියලා චාතුම්මහාරාජිකයේ යන්නෑ. මනුස්ස ලෝකෙ ගොඩාක් සල්ලි තිබ්බා කියලා එහෙ යන්නෑ. මනුස්ස ලෝකෙ ඉහළට ඉගෙන ගත්තු මනුස්සයෙක් කියලා එහෙ යන්නෙ නෑ, මනුස්ස ලෝකෙ උපාධිධාරියෙක්ය කියලා එහෙ යන්නෙ නෑ. හැබැයි මේ මනුස්ස ලෝකෙ ඉන්නකොට උපෝසථ සිල් සමාදන්ව ආරක්ෂා කරගෙන තිබුනොත් අන්න ඒ කෙනාට මරණින් මත්තෙ චාතුම්මහාරාජිකයේ යන්න පුලුවන්. විශාඛාවෙනි, මනුස්ස ආයුෂ වලින් අවුරුදු සීයක් ගතවුනාම තමයි තව්තිසාවේ දෙවිවරුන්ට එක දවසක්, එක රෑ දහවලක් ගතවෙන්නෙ මනුස්ස ලෝකෙ ආයුෂ වලින් අවුරුදු සීයක් ගියපු තැන. තව්තිසාව කියලා කියන්නෙ චාතුම්මහාරාජිකයට ඉහළ දිව්‍යලෝකෙ. එහෙ ආයුෂ චාතුම්මහාරාජිකයට වැඩියි. මනුස්ස ලෝකෙන් අවුරුදු සීයක් ගතවුනාම තව්තිසා දෙවිවරුන්ට එක දවසක් උදාවෙනවා. ඒ වගේ දවස් වලින් තිහක් එකතු වුනාම තව්තිසාවට මාසයයි, ඒ වගේ මාස දොළහක් ගියපු තැන තව්තිසාවට අවුරුද්දයි. එබඳු අවුරුදු වලින් අවුරුදු දාහක්, එබඳු අවුරුදු කියලා කියන්නෙ තව්තිසා අවුරුදු වලින්, අවුරුදු දාහක් ගියපු තැන තමයි තාවතිංස දෙවිවරුන්ගේ ආයුෂය, එහෙ ගියපු කෙනෙකුට එච්චර කාලයක් ආරක්ෂාව තියෙනවා. එච්චර කාලයක් ආරක්ෂාව තියෙනවා කියලා කියන්නෙ ඒ තව්තිසා දෙවියන් අතරේ දිව්‍ය සම්පත්තියෙන් යුක්තව සත්පුරුෂයො ඇසුරු කර කර පින් පුරන්න අවස්ථාව තියෙනවා. එසේ පින් පිරුවොත් තව්තිසාවේ හොඳට පින් පිරුවොත් ආයෙත් රැකවරණය තියෙනවා. වැටෙන් නෑ. නොවැටී රැකෙන්න අවස්ථාව තියෙනවා. අන්න ඒ නිසයි පින්වතුනේ පින් කරගත යුත්තෙ. භාග්‍යවතුන් වහන්සේ මේ විදියට දිව්‍ය ලෝක හය ගැනම වදාළා, බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා විශාඛාවෙනි, මනුස්ස ලෝකෙ අවුරුදු

වලින් අවුරුදු දෙසීයක් ගතවුනාම තමයි යාම දෙවිවරුන්ට එක දවසක් ගතවෙන්නෙ. ඉතින් ඒ වගේ දවස් වලින් යුක්තව තමයි යාම දෙවිවරුන්ට අවුරුද්ද සකස් වෙන්නෙ. එබඳු අවුරුදු වලින් එබඳු අවුරුදු ගතවෙලා එබඳු අවුරුදු ගෙවී ගිහිල්ලා ඒ අවුරුදු වලින් වර්ෂ දෙදාහක් තමයි යාම දෙවිවරුන්ගේ ආයුෂය. තුසිතය ගැන කියනකොට මනුස්ස ලෝකෙන් අවුරුදු හාරසීයක් ගතවුනාම තමයි තුසිත දෙවිවරුන්ට එක දවසක් උදාවෙන්නෙ. ඒ වගේ දවස් වලින් තිහක් මාසයයි, ඒ වගේ මාස වලින් මාස දොළහක් අවුරුද්දයි. තුසිත දෙවිවරුන්ගේ ආයුෂ ප්‍රමාණය එබඳු අවුරුදු හාරදාහක්. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා නිම්මාණරතිය ගත්තහම නිම්මාණරතියේ දෙවිවරුන්ගේ ආයුෂය මනුස්ස ලෝකෙ අවුරුදු වලින් අවුරුදු අටසීයක් ගියාමයි එහෙට එක දවසක් උදාවෙන්නෙ. ඒ වගේ රාත්‍රීන් තිහක් මාසයයි. ඒ මාස වලින් දොළහක් අවුරුද්දයි. නිම්මාණරතියේ දෙවිවරුන්ගේ ආයුෂ ප්‍රමාණය ඒ අවුරුදු වලින් අටදාහක් වෙනවා. පින්වත් විශාකාවෙනි මනුස්ස ආයුෂ වලින් අවුරුදු එක්දහස් හයසීයක් පරනිම්මිත වසවර්තියේ දෙවිවරුන්ට එක රැයක් සහ එක දහවලක්. මේ පරනිම්මිත වසවර්තියේ දෙවිවරුන්ට එක රෑ දහවලක්, එක දවසක් ගතවෙන්න මනුස්ස ලෝකෙ අවුරුදු වලින් එක් දහස් හයසීයක කාලයක් ගතවෙනවා. එක් දහස් හයසීයක් ගියපු තැන තමයි එහෙට එක දවසක් කියලා කියන්නෙ. ඒ වගේ දවස් වලින් දවස් තිහක් ගියපු තැන තමයි පරනිම්මිතවසවර්ති දෙව්ලොව මාසෙ. ඒ වගේ මාස වලින් මාස දොළහක් ගියාමයි එහේට අවුරුද්දක්. පරනිම්මිතවසවර්තියෙ දෙවිවරුන්ගේ ආයුෂ ප්‍රමාණය ඒ අවුරුදු වලින් දහසය දාහක් බවට පත්වෙනවා. දීර්ඝායුෂ. දැන් බලන්න පරනිම්මිත වසවර්තිය ගැන හිතපුවාම තේරෙනවා එහේට භාග්‍යවතුන් වහන්සේ පිරිනිවන් පාලා තාම දවස් දෙකයි. දැන් අපිට බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාලා මේ වෙනකොට වර්ෂ දෙදහස් පන්සිය හැටපහක් ගතවෙලානෙ. එහෙට අනුව බැලුවොත් දවස් දෙකක්. එතකොට තාමත් භාග්‍යවතුන් වහන්සේ ගැන කතාව, ධර්මය ගැන කතාව, මේ සියල්ල ඒ ලෝක වල ඇති. ඒ දෙවිවරු ඒ රැකවරණය ලබනවා ඇති. අද වෙනකොට මේ මනුස්ස ලොකයේ නම් නොයෙක් මිසදිටු මතවාද වලින් මේවා කිලිටි වෙනවානෙ. ඉතින් එහෙම තමයි අපි හොඳට උපෝසථ සිල් ආදිය ආරක්ෂා කර කර පින් පිරුවොත් තියෙන රැකවරණය. ඉතින් ඔහොම පින් පුරාගෙන චාතුම්මහාරාජික, තව්තිසා, යාම, තුසිත, නිම්මාණරතිය, පරනිම්මිතවසවර්තිය කියන මේ දිව්‍ය ලෝක වල, මනුස්ස ලෝකෙ අනූ එක්

කල්පයක් පුරාවට සුගති වලම ඉපදි ඉපදි ඇවිල්ලා මේ ජීවිතේ බොහෝම ධනවත් සිටු පවුලක උත්තමා කියන නමින් තමයි මේ මහා පින්වන්තිය උපත ලැබුවෙ. තරුණ වයසට එනකොටම පටාචාරා කියන අර්හත් තෙරණිය නිතර ඇසුර කරන්න ලැබුනා. ඇය ඇසුරු කරද්දි බණ අහද්දි හිත පහන් වුනා. පටාචාරා භික්ෂුණිය ළඟම මහණ වුනා. මහණ වෙලා ඉතාම කෙටි කලකින් අර්හත්වයට පත්වුනා. ඒ අර්හත් උත්තමාවිය පිරිනිවන් පාන මොහොතේ මෙන්න මේ විදියට ගාථා වදාළා උත්තමා තෙරණියගේ ගාථා. මටත් චිත්ත සමාධියක් ලබාගන්න බැරිවුනා. සිත දමනය කරගන්න බැරිවුනා. එතකොට මං දවසට හතර පස් වතාවක් ආරාමයෙන් පිටත් වෙලා ගියා. ඒ ආරාමයෙන් පිටත් වෙලා ගියා කියන්නෙ මොකක්ද, කල්‍යාණමිත්‍ර උත්තමයො උත්තමාවියො හම්බෙලා බණ පද අහගන්නයි මේ යන්නෙ. මොකද හිත දමනය කරගන්න බැරිවෙනකොට හිත කෙලෙස් වලින් ඇවිස්සෙනකොට කල්‍යාණමිත්‍රයාගෙන් සත්පුරුෂයාගෙන් තමයි අවවාද අරගෙන හික්මෙන්නෙ. මං ශ්‍රද්ධාව පිහිටුවාගෙන හිටියේ එක්තරා භික්ෂුණියක් ගැන. මං ඒ භික්ෂුණිය ළඟට ගියා. ඇය මට ස්කන්ධ ධාතු ආයතන ගැන ධර්මය දේශනා කලා. ඒ කවුද ඒ ශ්‍රද්ධාව පිහිටුවාගෙන හිටිය භික්ෂුණිය, අපේ පටාචාරා අර්හත් භික්ෂුණිය. ඈ ළඟට ගිහිල්ලා ඈගෙන් කියනවා බණ පද අහගත්තෙ. ඇය මට අනුශාසනා කරපු විදියටම ඇගේ ධර්මානුශාසනාව හොදට අසාගෙන සිටිනකොට මගේ හිතට හරි සැපයක් ඇතිවුනා. මං එක පළඟින් දවස් හතක්ම හිටියා. මේ අවිද්‍යා අන්ධකාර කෙළෙස් කඳ පළලා දාලා අටවෙනි දවසේ තමයි මං කකුල් දිගහැරියේ. පරම සැපයට පත්වෙලයි ඒ උත්තමාවිය අවසානයේ දින අටකට පස්සේ කකුල් දිගහැරියේ කියලා මේ පිරිනිවන් පාන මොහොතේ අනිත් භික්ෂුණීන් වහන්සේලාට වීර්යය ඉපදීම පිණිසමයි උත්තමා නම් වූ අර්හත් උත්තමාවිය මේ ථෙරීගාථා වදාලේ. එතකොට බලන්න පින්වත්නි, මීට අනූ එක් කල්පයකට පෙර රැස් කරගත්ත පිනක මහිමය. විශේෂයෙන් උපෝසථ සීලය ආරක්ෂා කර කර රහතන් වහන්සේලා අනුව යමින් පින් පුරා ගත්ත එකේ වටිනාකම අනූඑක් කල්පයක් ඇතුලේ දුගතියක ගියෙ නෑ, ඒ අනූ එක් කල්පය ඇතුලේම සුගති සැප ලබ ලබ දහම් මගක්, පින් වැඩෙන මගක් දියුණු කරගන්න පුලුවන් වුනා. පහළට වැටෙන්නේ නැතිව රැකෙන්න පුලුවන් වුනා. එහෙම රැකවරණය කියන එක හැදෙන්නෙ ජීවිතේට පින් හැදෙනවා නම් විතරයි. පිනෙන්නෙ ඒ රැකවරණය අපිට හදලා දෙන්නෙ. පින හින්දා තමයි රැකවරණය හදලා දෙන්නෙ. පහළට නොවැටෙන්න. පින කියලා කියන්නෙ ඉහළට යන

ගමනක්. පින් රැස් කරගත්තොත් එහෙම ජීවිතේ උඩු අතට යනවා. ඉහළ පැත්තට. පින රැස්කරගන්න බැරිව ගියොත් ජීවිතය අනිත් පැත්ත හැරෙනවා, යටි අතට යනවා. එතකොට මේ ජීවිතයට සකස් වෙන සංස්කාර අතරේ ජීවිතයට සැප හදන සංස්කාර තමයි පුඤ්ඤාභිසංස්කාර සහ ආණිඤ්ජාභිසංස්කාර. ආණිඤ්ජය කියලා කියන්නෙ සමථ විදර්ශනා භාවනාවෙන් වැඩෙන එකක්. එතකොට සමථ විදර්ශනා භාවනාවටත් උපකාර කරනවා පින. පින රැස් කරගෙන තිබීමෙන් තමයි සමථ විදර්ශනා භාවනාවට පසුබිම හැදෙන්නෙ. එතකොට සමථ විදර්ශනා භාවනාව කියන ආණිඤ්ජාභිසංස්කාරය කෙනෙකුට රැස් කරගන්න බෑ පුණ්‍ය සංස්කාර නැතිව. එහෙනම් එතනදිත් පුඤ්ඤාභිසංස්කාරය මුලට එනවා. පින කිරීමමයි උතුම්. පින රැස් කිරීමමයි උතුම්. රැස් කරන පිනෙන්මයි අපිට යහපත හදලා දෙන්නෙ. ඒ නිසා හොඳට ඒ කාරණය හිතට අරගන්න. හිතට අරගෙන මේ උත්තමා කියන අර්හත් උත්තමාවියගේ චරිතාපදානය මතක තියාගන්න. මතක තියාගෙන නිතර සිහි කරන්න. මීට අනූ එක් කල්පයකට පෙර ඇය උපෝසථය ආදී ආරක්ෂා කර කර පින් පුරන්න පටන් ගත්තා. එහි රැකවරණය නිසා අනූ එක් කල්පයක් ඇතුලේ අනතුරක් වුන් නෑ, අනතුර කියලා කිව්වෙ මේ සාංසාරික ගමනේ දුකින් දුකට වැටෙනවා කියන එකට ඇය පත්වුන්නෑ. ඈ මේ සංසාර ගමනේ දිගින් දිගට එනකොට සසරින් නිදහස් වෙන තැනටම ආවා. අවසානයේ සියලුම කෙලෙස් නසා අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. උත්තමා මහරහත් තෙරණිය. ඉතින් ඒ උත්තමා නම් වූ මහරහත් තෙරණියට නමස්කාර කරමින් අපිත් පුණ්‍ය ප්‍රාර්ථනා එක් කරමු අපටත් ඒ රහත් වහන්සේලා නිවී සැනසුන අර්හත් තෙරණින් වහන්සේලා නිවී සැනසුන අමා නිවනේ සැනසෙන්න ලැබේවා. සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයෝ අපි පළමුකොට අනුමෝදන් කරමු සියලු දෙවිවරුන්ට සක්දෙවිඳුන්, සතර වරම් දෙවිවරුන්, සෙන්පති දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවිවරු සතුටු සිත් උපදවාගෙන මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ඔබ අප හැමදෙනාගේ ඉෂ්ටකාමී හිතකාමී දෙවිවරුත් පින් අනුමෝදන් වෙත්වා. ශ්‍රීමත් සුමන සමන් දෙව්රජු ප්‍රධාන ලංකා භූමිය සුරකින දෙවිවරු පින් අනුමෝදන් වෙලා දෙවියෝ දිව්‍ය සැපයෙන් වැඩේවා. ඒ දෙවියෝ අප හැමදෙනාටම සියලු ආරක්ෂාව ආශිර්වාදය නොඅඩුවම සළසත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අපගේ ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා,

අනුමෝදන් වෙත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව නීරෝගීව දීර්ඝායුෂ ලබත්වා, ගෞතම ශාසනය තුළ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන් අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද මේ ධර්ම දානය සිද්ධ කරන පින්වතුන්ලාගේ ප්‍රධාන අරමුණ වශයෙන් සටහන් කොට ඇති පරිදි නො.23/240, යටිවාවල, කටුගස්තොට යන ලිපිනයේ පදිංචිව සිට 2021 මැයි මාසෙ 24 වනදින කොරෝනා වෛරසය වැළඳීම හේතුවෙන් මිය පරලොව යන්න යෙදුනා වූ ඒ පින්වත් ශීලා වික්‍රමසිංහ මැණියන්ට මේ සියලු පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. 2020 දෙසැම්බර් මාසයේ 30 වෙනි දින මියපරලොව ගිය පින්වත් චින්තක සෙනෙවිරත්න සහෝදරයාටත් මීට වසර තිස් අටකට පෙර මියපරලොව ගිය ක්ලැරන්ස් සෙනෙවිරත්නය පියාණන්ටත් මේ සියලු පුණ්‍ය ධර්මයන් අනුමෝදන් වෙත්වා. මියපරලොව ගිය ආරියදාස වික්‍රමසිංහ මාමාට, මැගිලින් වික්‍රමසිංහ ආච්චි අම්මාට, සනී ආරියරත්න අමරකෝන් පියාණන් ඇතුළු නමින් මියගියා වූ සියලු ඥාතීන්ට සියලු හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන්ව ඥාතීන්ගේත් හිතමිත්‍රාදීන්ගේත් පරලොව ජීවිතය ඒකාන්ත වශයෙන් සැපයට පත්වෙත්වා. අපගේ ඥාතීන් මේ දුක්ඛිත වූ සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදනා සිද්ධ කරන්නෙ. සුජීවත්ව සිටින යටිවාවල පදිංචි කපිල සෙනෙවිරත්න, චන්ද්‍රිකා සෙනෙවිරත්න, නිහාල් වික්‍රමසිංහ, චන්ද්‍රානි වික්‍රමසිංහ යන පින්වතුන්ලාටත් බෝලවත්ත පදිංචි නිහාල් අමරකෝන්, අමිලා අමරකෝන්, ටිකිරිමැණිකේ මැණියන්, මාතලේ පල්ලෙපොල පදිංචි පින්වත් ජී.බී. ගොඩවල අප්පච්චි, තිලකා කුලතුංග මැණියන් ඇතුළු පවුලේ හැමදෙනාටත් යටිවාවල පදිංචි ධර්මවතී වික්‍රමසිංහ ලොකු අම්මාටත් මේ සියලූ පින් අනුමෝදන් වෙලා නිදුක් නිරෝග සුව සැලසේවා. ධර්මාවබෝධය පිණිස මේ සියලු පින් ඒකාන්ත වශයෙන් හේතුවේවා. විදුන් සෙනෙවිරත්න, තෙවස් අමරකෝන්, සඳුනි සෙනෙවිරත්න, විසල් සෙනෙවිරත්න, සදිල් සෙනෙවිරත්න, ඉසුරු වික්‍රමසිංහ යන ඒ දරුවන්ට මේ සියලු පින් අනුමෝදන් වෙලා ඒ දරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදිය සර්වප්‍රකාරයෙන් සාර්ථක වෙත්වා. ජීවිතයට සියලූ යහපත අභිවෘද්ධිය සැලසේවා. ජීවිතයට යහපත සළසන සත්පුරුෂ උතුමන්ගේ ආශ්‍රය ඒ දරුවන්ගේ ජීවිතයට නොඅඩුවම ලැබෙත්වා. ගෞතම බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක දූලා පුතාලා විදියට සම්බුදු සසුනේ පිළිසරණ ලබන්න

වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. අද ධර්ම දානය සිදු කරපු ඒ පින්වතුන්ලා සෑම සියලු දෙනාට ඒ වගේම ශ්‍රද්ධා මාසික ධර්මදාන සාමාජික පින්වතුන්ලා හැමදෙනාට, ශ්‍රද්ධා කාර්යමණ්ඩලයේ සුපින්වත් සෑම සියලු දෙනාට මේ පින් අනුමෝදන් වෙලා සියලු දෙනාට සියලු යහපත අභිවෘද්ධිය සැලසේවා, නිදුක් නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සම්පත් සැලසේවා, මේ ගෞතම ශාසනය තුළ සුවසේ පින් පුරාගෙන සුවසේ ධර්මයේ හැසිරිලා චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න හැමදෙනාට වාසනාව ලැබෙත්වා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=N3ffwbU-lSo

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද දවසේ ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු මේ උතුම් ධර්ම දේශනාවට දායක්තවය දරනු ලබන්නේ ඔස්ට්‍රේලියාවේ වෙසෙන පහළොස් වන විවාහ සංවත්සරය යෙදුනු පින්වත් නීලක සෙනෙවිරත්න මහතා සහ කළණි ලෝචනා හිත්තැටිය මහත්මිය විසින්, ඒ පින්වතුන්ලාගේ විවාහ සංවත්සරය නිමිති කරගෙනයි අද දවසේ මේ දේශනාවට දායකත්වය දරමින් තමන්ගේ ජීවිතයට ධර්මදානමය පින සිද්ධ කරගන්නෙ. පින්වතුනේ ධර්මය කියලා කියන්නෙ තුන්ලෝකාග්‍ර අපගේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ ගුරුතන්හි තබාගෙන සත්කාර සම්මාන කරපු දෙය. ගාරව කියන සූත්‍ර දේශනාවේදී භාග්‍යවතුන් වහන්සේ වදාළා මහණෙනි, හැම කල්හි තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේලා ධජය කොට ගෙන වාසය කරන්නේ ධර්මයයි. ගුරු තන්හි තබාගෙන වාසය කරන්නෙ ධර්මයයි. ධර්මය වනාහි සම්බුදුරජාණන් වහන්සේලාද ගුරු තන්හි

තබාගන්නා දෙයයි. ඒ ධර්මය භාග්‍යවතුන් වහන්සේ කොයි තරම් ධර්මය කෙරෙහි ගෞරවයකින්, ධර්මයට සත්කාර සම්මාන කරමින් කටයුතු කලාද කියන්නෙ ඇතැම් වෙලාවට බුදුරජාණන් වහන්සේ දම් සභා මණ්ඩපයට වැඩම කරනවා භික්ෂූන්ට දහම් කතා කරන්න. එසේ ධර්මය කියාදෙන්න පැමිණෙද්දි භික්ෂූන් ඊට පෙරම දහම් කතාවක් ආරම්භ කරලා තියෙනවා. එතකොට බුදුරජාණන් වහන්සේ දොරටුව ළඟට පැමිණිලා දම්සභා මණ්ඩපයේ දොරටුව අසල හිටගෙන ඉන්නවා භික්ෂූන් දහම් කතාව අවසාන වන තෙක් ඒ දහම් කතාවට සවන්දීගෙන. බුදුරාජණන් වහන්සේ තමන් වහන්සේ පැමිණි බව අඟවන්නෙ නෑ. භික්ෂූන් දහම් කතාව නිමා කලාම, ශාස්තෘන් වහන්සේ උගුර පාදනවා, ධර්ම ගෞරවය නිසා. ඒ නිසා එක් අවස්ථාවක භාග්‍යවතුන් වහන්සේ වක්කලී කියන මහතෙරුන් වහන්සේට වදාළා වක්කලී, ඔබ මාව දකින්න කැමැති නම් ඔබ ධර්මය දකින්න. ධර්මය දකින කෙනාමයි මා දකින්නෙ, ඒ නිසා අපි ධර්මය දන්දෙනවා කියලා කියන්නෙ අපි ධර්මයට ගරු සත්කාර දක්වනවා කියලා කියන්නෙ ඒක අපේ ශාස්තෘන් වහන්සේට කරන උපහාරයක්. ධර්මය දන්දෙනවා කියලා කියන්නෙ අපි ධර්මයට ගරු සත්කාර දක්වනවා කියලා කියන්නෙ ඒක අපේ ශාස්තෘන් වහන්සේට කරන උපහාර පූජාවක් වගේ. ඇත්තටම ධර්මයට උපහාර පූජා කරන්න ඕන කියලා ඒ කාලෙ එක බමුණෙකුට හිතුනා. මිනිස්සු භාග්‍යවතුන් වහන්සේටත් දන්දෙනවා, පූජා සත්කාර කරනවා, සංඝයාටත් දන්දෙනවා පූජා සත්කාර කරනවා, මම ධර්මයට සත්කාර කරන්න ඕන, ධර්මයට පූජාවක් කරන්න ඕන කියලා බමුණෙකුට හිතුනා. අවසානයේ ධර්මයට කරන පූජාව ලෙස, ධර්මය උදෙසා කරන දානය ලෙස, ධර්මයට කරන සත්කාරය විදියට පූජා සත්කාරය කෙරුනේ භාග්‍යවතුන් වහන්සේ උදෙසා. ධර්මය දන්දෙනවා කියලා කියන්නෙ ශාස්තෘන් වහන්සේ උදෙසාත් කරන උපහාරයක් වගේ. අප ශාස්තෘන් වහන්සේ උදෙසා පමණක් නෙවෙයි, යම්තාක් අතීතයේ අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේලා පහළ වුනාද, ඒ සියලු සම්මා සම්බුදුරජාණන් වහන්සේලාටම කරන උපහාරයක් වගේ මේ ධර්මය දන් දීම. එතකොට ධර්මය නිසාමයි, ඒ සම්බුදුරජාණන් වහන්සේලා මේ ලෝක සත්වයා කෙරෙහි දැක්වූ කරුණාව, අනුකම්පාව, මේ ලෝක සත්වයාට සසර කතරින් එතෙර වීම පිණිස ලබා දීපු මහා දායාදය, මේ ලෝක සත්වයාට ලැබෙන්නෙ ධර්මය නිසා. ඒ නිසාම ශාස්තෘන් වහන්සේ පිරිනිවන් පානකොට බුදුරජාණන් වහන්සේ වදාළේ, ආනන්දයෙනි ඔබට හිතෙන්න පුලුවන් අදින් පස්සෙ අහෝ අපගේ ශාස්තෘන්

වහන්සේ පිරිනිවන් පෑවා, අපේ ශාස්තෘන් වහන්සේ අතීතයට ගියා, දැන් අපිට ශාස්තෘවරයෙක් නැනෙ, අපිට මගපෙන්වන්නෙක් නැනෙ කියලා. ආනන්දයෙනි එසේ නොසිතිය යුත්තේය. අදින් පසු ආනන්දය ඔබට ශාස්තෘන් වහන්සේ වන්නේ මා විසින් දේශනා කරන ලද ධර්මයත්, මා විසින් පනවන ලද විනයත් ය. එතකොට තේරෙනවා ඒකෙන් ඒ ධර්ම විනය යම් කෙනෙක් කියාදෙනවා කියන එක එහෙම නැත්නම් ඒ කියාදීමට පසුබිම හදනවා කියන එක ඒ ඔක්කොම සම්මා සම්බුදුරජාණන් වහන්සේලාට කරන උපහාර පූජාවල් වගේ දේවල්. ඒකෙ පින්වතුනි හරී ලස්සන තැනක් තියෙනවා මහාවංශයේ, අපේ දුටුගැමුණු මහා නරේන්ද්‍රයන්, දුටුගැමුණු මහානරේන්ද්‍රයාට අහන්න ලැබුනා දානයන් අතර අග්‍රම දානය ධර්ම දානයයි කියලා. එතකොට රජතුමාට සිතුවිල්ලක් උපදිනවා මං සංඝයාට බොහෝ දානෙ දීපු කෙනෙක්. මං සෑ රජාණන් වහන්සේලා ආදිය බොහෝම සැදැහැයෙන් ඉදිකරපු කෙනෙක්. සංඝයාට වැඩ ඉන්න වෙහෙර විහාර බොහෝමයක් කරපු කෙනෙක්. ඒ වුනාට මං අග්‍ර දානෙ දීලා නැනෙ. ඒ අග්‍ර දානය වූ ධර්ම දානය මමත් දෙන්න ඕන කියලා සංඝයා වහන්සේලාට මහා සංඝයාට කිව්වා මේක. ඉතින් එතකොට අපේ මහා සංඝරත්නය, රහතන් වහන්සේලා රජ්ජුරුවන්ට බණ කියන්න අවස්ථාවක් හැදුවා. රජ්ජුරුවෝ මහා සඟරුවන මැද ධර්මාසනය පනවාගෙන ඒ ධර්මාසනය මත වැඩ හිටියා, මහා මංගලසූත්‍රය මුල් කරගෙන ධර්මය කියන්නම් කියලා. නමුත් ධර්මාසනයේ වාඩිවුනාට පස්සෙ අර සඟරුවන කෙරෙහි තියෙන ගෞරවය නිසා රජ්ජුරුවන්ට බැරිව ගියා කියනවා බණ පදය කියාගන්න, රජ්ජුරුවන්ට වචන එන්නැතිව ගියා. ධර්මය කියාගන්න බැරිව ගියා. ඊටපස්සෙ රජ්ජුරුවෝ කල්පනා කලා එහෙනම් මං කළ යුත්තේ ධර්ම දානය, එහෙනම් මං මෙහෙම කරනවා. ධර්ම දේශකයන් වහන්සේලාට පහසුව හදනවා. ධර්ම දේශකයන් වහන්සේලාට ධර්මය කීමේ පහසුව හැදුවා. දේශකයන් වහන්සේලාට සුවය හැදුවා. දේශකයන් වහන්සේලාට රෑ එළිවෙනකල් බණ පද කියනකොට උගුරේ අමාරු එනවා. ඒ නිසා ඉතා ප්‍රණීත වූ සූකිරි දන් දුන්නා. ඊළඟට වැල්මී මිටි ගණන් දන් දුන්නා. ඒ දේශකයන් වහන්සේලාට අර උගුරේ අපහසුව සුව කරගන්න. ඊළඟට ධර්ම දේශකයන් වහන්සේලා රෑ එළිවෙනකල් බණ කියනකොට මිනිස්සු එළිවෙනකල් බණ අහන්න එනවා. ඒ මිනිස්සුන්ට ආලෝකය සපයගන්න, බණ මඩුවලට අවශ්‍ය කරන පහන්, තෙල්, වැටි, මේ හැමදේම රජ්ජුරුවෝ ලබාදුන්නා. රජ්ජුරුවෝ එහෙම ධර්ම දානය කලා. ඉතින් අද පින්වතුන්ලා ධර්ම දේශනා සිද්ධ

කරනකොට ඒ ධර්ම දේශනා වලට විකාශන දායකත්වය දරනවා කියන්නෙ ධර්මදානමය පින. දේශකයන් වහන්සේලා බණ පද කියනකොට ඒ බණ පද විකාශනය කරවන්න දායකත්වය දරනවා, දෙනෝදහසක් දෙනාට බණ පදය අහන්න. ධර්ම දානමය පින. බොහෝම සන්තෝෂ වෙන්න හිත සතුටු කරගන්න. පින කියන දේ පින්වතුනේ අපේ ජීවිතයට අපි හැමදෙනාටම උවමනා කරන දේ. බුදුරජාණන් වහන්සේ පින ගැන වදාළේ, පින යනු නිධානයක් බඳුය කියලා. පින කියලා කියන්නෙ හැබෑම නිධානයයි. සාමාන්‍ය නිධාන මේ ලෝකෙ අහිමි වේ. නමුත් පින නම් වූ නිධානය කිසි කලෙකත් රැස් කරන කෙනාට අහිමි නොවේ. ඉතින් බුදුරජාණන් වහන්සේගේ ශාසනය තුළ ඒ පුණ්‍ය නිධානය පින නිධානයක් සේ රැස් කරගෙන එයින් සැපවත් වූ ජීවිත ගැනනේ අපි ඉගෙන ගන්නෙ. මේ අර්හත් තෙරණිවරු ගැන ඉගෙන ගනිද්දි. අද අපි ඉගෙන ගන්නෙ උත්තමා නම් වූ අර්හත් තෙරණියගේ ගාථා. මේ උත්තමා තෙරණිය කියලා කියන්නෙ ඇගේ චරිතාපදානය තුළ සඳහන් වෙන්නෙ මීට අනූ එක් කල්පයකට පෙර ඉතිහාස කතාව. ඈ මීට අනූ එක් කල්පයකට පෙරයි පින් පුරන්න පටන් ගත්තේ මීට අනූ එක් කල්පයකට පෙර පහළ වුනානෙ ලෝකයට විපස්සී අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ. ඒ කාලෙ මිනිස්සුන්ගේ ආයුෂ හරී දීර්ඝයි. හැත්තෑදහසක ආයුෂයක් මිනිස්සුන්ට තිබුනා. බන්ධුමතී කියන රාජධානියේ කරවපු විහාරයක බුදුරජාණන් වහන්සේ වැඩ ඉඳලා ඒ කාලෙ බොහෝ ධර්ම දේශනා කලා මේ සත්වයාට යහපත සැප පිණිස. ඔය කාලයේ බන්ධුමතී රාජධානියේ බන්ධුම කියන රජ්ජුරුවො ඇතුලු රාජකීය පිරිස විපස්සී බුදුරජාණන් වහන්සේ කෙරෙහි බලවත් චිත්ත ප්‍රසාදයකින් හිටියෙ. ඉතින් රාජකීය පිරිස පින් පුරනවා. රාජකීය පිරිස ධර්මයේ හැසිරෙනවා. ඔය රජ වාසලේ දාසියක් ඉන්නවා, ඇයට කියනවා කුම්බදාසී, කුම්බදාසී කියලා කියන්නෙ මාළිගාවට දිය අදින එක තමයි එයාගෙ මූලික කටයුත්ත. සාමාන්‍යයෙන් මාළිගාවක් කිව්වම පින්වතුනි ලොකු පිරිසක්, ඒ හැමදෙනාට උවමනා කරනවා වතුර. ඉතින් ඒ වතුර අදින්න වෙන පිළිවෙලක් තියෙන්න නැතිව ඇති. දාසියො තමයි කළගෙඩි අරගෙන ගිහිල්ලා ඒ කළගෙඩි වලින් නිතර මාළිගාවට උවමනා කරන වතුර ටික අරගෙන එන්නෙ. ඒ නිසා ඇලා ප්‍රසිද්ධ කුම්බදාසියො, කළ අරගෙන යන දාසියො. මෑ කුම්බදාසියක්. මේ කුම්බදාසිය දවසක් දිය අරගෙන එන්න පැන් තොටට යනකොට ඈ දකිනවා බොහෝම ප්‍රසන්න ඉඳුරන් ඇති දැක්ක ගමන් හිත ඇදිලා යන තරම් සංවර භික්ෂුවක්. දැක්ක ගමන් ඇගේ හිත පැහැදුනා. ඇය එදා දහවලට කන්න කියලා,

ළඟ තියාගෙන තමන්ගේ ඉණේ ගැටගහගෙන හිටියා අග්ගලා ගෙඩි තුනක්. මේ අග්ගලා තුන ඇයට පූජා කරන්න හිතුනා. අර ස්වාමීන් වහන්සේ දකිනකොට, ඒ ස්වාමීන් වහන්සේ පිණ්ඩපාතෙ වඩිනවා. ඉතින් ඇයට හිතක් උපන්නා, මගේ සන්තකේ තියෙන්නෙ මෙච්චරනෙ. මම මේ අග්ගලා ටික මේ ස්වාමීන් වහන්සේට පූජා කරනවා. මහා සංඝරත්නය උදෙසා අර අග්ගලා පූජා කලා. බුදුරජුන් පිදීම, සඟරුවන පිදීම නත්ථි චිත්තෙ පසන්නම්හි අප්පිකා නාම දක්ඛිණා තථාගතේ වා සම්බුද්ධෙ යතවාතස්ස සාවකේ, තථාගත අර්හත් සම්මා සම්බුදුරජුන්ට හෝ තථාගත ශ්‍රාවක භික්ෂු සංඝයාට හෝ යම් දානයක් දෙනවා නම් ඒ දානයේ අල්පයි කියා දෙයක් නැත. සිත පහන් වෙලා දන් දෙනවා නම් බුදුරජුන්ටත් සඟරුවනටත් පොඩ්ඩයි දුන්නෙ, පොඩි පිනයි කියලා එහෙම කතන්දරයක් එතන නෑ. බුදුරජුන් පුදනවා නම්, සඟරුවන පුදනවා නම් ඒ ගැන කියන්න තියෙන්නෙ මහත්ඵලයි, මහානිසංසයි කියලා. ඒ පූජාව පුංචි දෙයක් වෙන්න පුලුවන්. ඉදිකටුවක දෙයක් වෙන්න පුලුවන් පූජා කරන්නෙ. බොහෝම සුළු දෙයක් විතරයි වෙන්න පුලුවන් පූජා කරන්නෙ. හැබැයි ඒකට සුළු දේ කියලා කියන්නෑ, බුදුරජුන්ට නම් පිදුවේ, සංඝයාට නම් පිදුවේ, හේතුව? මේ ලෝකෙ යම්තාක් සත්වයෝ ඇත්ද, සියලු සතුන් අතර බුදුරජාණෝම අග්‍ර වන්නේය. මේ ලෝකෙ යම්තාක් පිරිස් ඇත්ද, සියලු පිරිස් අතර බුදුරජුන්ගේ ශ්‍රාවක පිරිසම අග්‍ර වන්නේය. අග්‍ර වූ තැනට හිත් පහන් වන්නේ නම් ඒ ප්‍රසාදයට අග්‍ර ප්‍රසාදයක් යැයි කියයි. අග්‍ර ප්‍රසාදයෙන් යුතුව ඒ අග්‍ර ප්‍රසාදය ඇති තැනට යමක් පුදන්නේද එහි විපාකය කෙසේ නම් අල්ප වන්නද. ඒ ප්‍රසාදය ඒකාන්තයෙන් අග්‍රයි. ඒකාන්තයෙන් අග්‍රයි. අග්‍ර වූ බුද්ධරත්නය වැඩ හිඳිනා කාලය, අග්‍ර වූ සංඝරත්නය වැඩ හිඳිනා කාලය, අග්‍ර වූ පින් පුරාගන්න ලැබෙනා කාලයයි. මේ එහෙම කාලයක්. පින්වතුනේ සඟරුවන දකිද්දි හිත පහන් කරන්න. හිත පහදව පහදවා පින එකතු කරගන්න. හේතුව අග්‍ර වූ සඟරුවන වැඩ ඉන්නෙ අපිට අග්‍ර වූ පින් පුරාගන්න. අනුත්තරං පුඤ්ඤක්ඛෙත්තං ලෝකස්ස, ලෝකයේ අනුත්තර පින් කෙත. ඒ අනුත්තර පින් කෙතේ තමයි එදා ඈ ඉතා සාරවත් වූ පුණ්‍ය බීජ වැපිරුවෙ. ඈ පූජා කලේ ඈ ගාව තිබුනු අග්ගලා තුන. බලන්න ඒ අග්ගලා තුන ඇයව අරගෙන ගියපු තැන. ඈ මරණින් මත්තේ උපදිනවා ඒ පිනෙන් දෙවියන් අතරේ. සාමාන්‍යයෙන් අග්ගලාවකට එහෙම නැත්නම් කන බොන දේකට අපිට මේ ජීවිතේ පොඩ්ඩක් කුස පුරවන්න විතරයි පුලුවන්නෙ. බුද්ධ ශාසනය නොතිබුනා නම් පින්වතුනි මේ ජීවිතේ ඔය කන බොන දේකින් පොඩ්ඩක් අපේ කුස පුරවයි. අපි ඒක තව කෙනෙකුට දානයක් විදියට

දුන්නොත් ඒකෙන් යම් පිනක් අපිට උපද්දලා දෙයි. හැබැයි ඒකාන්ත මහත්ඵල මහානිසංස පිනක් උපදිනවා මහා සඟරුවනට දන් දෙද්දි. බලන්න අපිට ලැබිලා තියෙන අවස්ථාව. මේකෙදි තේරුම් ගන්න ඕන අපි අද ලබා තිබෙන අවස්ථාව. අපි ලබා තිබෙන අවස්ථාව තේරුම් අරගෙන හොඳට පින් පුරාගන්න ඕන. ඇයි අපිට බැරිද ඒ අග්‍ර වූ පින මේ වගේ ආපදා සම්පන්න කාලෙකදි පවා තමන්ගේ නිවසේ ඉඳලා රැස් කරන්න, පුලුවන්. භාග්‍යවතුන් වහන්සේ උදෙසා බුද්ධ පූජාව පූජා කරන්න. අග්‍ර පින්. අග්‍ර පින්. ඒ කියන්නෙ බුද්ධ පූජාව පූජා කරනවා කියන එක අර අපිට තමන්ගේ නිවසේ කරනකොට ගොඩාක් දෙනෙකුට හිතට එන ප්‍රශ්නයක්නෙ මේ පූජාව පූජා කලාට පස්සෙ අපි මේක අයින් කරනවා, ඒ අයින් කරද්දි මොකද කරන්නෙ කියලා. ඔය පූජා කරපු බුද්ධ පූජාවට මොකක්ද කරන්නෙ ආදී වශයෙන් ප්‍රශ්නත් අහන්නෙ ඒ නිසානෙ. ඒක නෙවෙයි සිතිය යුත්තෙ පින්වත්නි, භාග්‍යවතුන් වහන්සේට දන් දෙද්දි අග්‍ර වූ පින් රැස් වෙන්නේය කියලා හිත හිත බුදුරජාණන් වහන්සේට සම්බුදු පූජාව පවත්වන්න. අග්‍ර පින තමන්ගේ ජීවිතේට ලැබෙන ලැබෙන හැම මොහොතකම රැස් කරගන්න. ඒ පින තමයි අපේ ජීවිතයේ යම් දවසක සැපවත් කරන්නෙ. බලන්න ඒ පිනට පුලුවන් වුනා ඇව සුගතියට අරන් යන්න. ඒක හරි ආශ්චර්යයි, අනූ එක් කල්පයකට පෙර ඈ සුගතියේ ගියානෙ. ඇය යළි ඒ අනූ එක් කල්පයේ අපේ ගෞතම අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ යුගය එනකල් දුගතියක ගියෙ නෑ කියනවානෙ. හරීම පුදුම සහගතයි මේ සිදුවීම්. ඒ කියන්නෙ මේක මේ අරගන්න ඕන අපි එහෙනම් ඉතින් අපි පොඩි පිනක් කරගත්තත් හරිනේ කියන එකක් තේරුම් ගන්න නෙවෙයි, මේ තෙරුවන්ගේ මහන්තත්වය, තෙරුවනේ තියෙන මහානීය බව, තෙරුවන කියලා කියන්නෙ කොච්චර උත්තරීතරයි ද, මේ තෙරුවන් සරණ කියලා කියන්නෙ කොච්චර ආනුභාව එකක්ද කියලා හිත පහදවගන්න මේ කාරණය ගන්න. සඟරුවනට යම් රසකැවිල්ලක් පූජා කරපු පිනෙන් ඈ දෙවියන් අතරට යනවා. දෙවියන් අතරේදී ලබන සත්පුරුෂ ඇසුර නිසා ඇය පිරිහෙන්නේ නැතිව රැකෙනවා. සුලු කාලයක් නෙවෙයි ඈ රැකුනේ. අනූ එක් කල්පයක් රැකුනා. කල්ප අනූ එකක් රැකුනා. ඒ නිසා සත්පුරුෂයාගේ ආශ්‍රය කියන එක අපිට මෙතනින් තේරුම් ගන්න පුලුවන්. සත්පුරුෂ ආශ්‍රයක් ලැබුනොත් කොච්චර රැකිල්ලක් රැකෙනවාද කියන කාරණය. හැබැයි සත්පුරුෂ ආශ්‍රයට අපිට යන්න පුලුවන් වෙන්නෙ පින්වතුනේ පින රැස් කරගැනීමෙන්. සත්පුරුෂයෙක් මුණගැහුනොත්, ඒ නිසා සත්පුරුෂයා නිතර උනන්දු කරනවා අපිව පිනට. මේ ලෝකයට පහළ වෙච්චි මහා සත්පුරුෂ

රත්නය අපිට නොයෙක් ආකාරයෙන් පින ගැන වර්ණනා කලානෙ. දැන් බුදුරජාණන් වහන්සේ එක අවස්ථාවක වදාළා පින ගැන නිධානයකට සමානකොට, ඒ පින ගැන නිධානයකට සමානකොට වදාළ ධර්මය මොකක්ද. බුදුරජාණන් වහ්නසේ දේශනා කලා මහණෙනි, මට අවශ්‍යතාවක් ඇතිවුනොත් මගේ ප්‍රයෝජනයට මේක හේතු වෙනවා කියලා හිතලා බොහෝ දෙනෙක් වතුර එනකල් ගැඹුරට හාරලා නිධාන කියලා දෙයක් තැන්පත් කරනවා. තමන්ගේ ධනය මට මේවා ප්‍රයෝජනවත් වෙනවා අනාගතේ, මට ආපදාවක් ආවොත් කියලා මිනිස්සු පොළොව යටට හාරනවා, හාරලා හාරලා තමන්ගේ වස්තුව පොළොව ඇතුලේ තැන්පත් කරනවා. ඇයි මේ ප්‍රයෝජනයකට අරගන්න, මට මේ අවස්ථාවක් ආවොත් එහෙම මට මේක හරි වටිනවා. මට ආපදාසම්පන්න අවස්ථාවන් එන්න පුලුවන් ජීවිතේ. මට කරදර එන්න පුලුවන්. මං වැටෙන්න පුලුවන්. හැමදාම මං මෙහෙම ඉන්නෑ. එහෙම හිතන මිනිස්සු ඉන්නවානෙ. එහෙම හිතන්නෙ ඥාණවන්තයෙක්නෙ. නුවණ තියෙන මිනිහෙක් තමයි එහෙම හිතන්නෙ. අනිත් මනුස්සයාට එහෙම ගාණක් නෑනෙ. ඔය මත්පැන්, මත්ද්‍රව්‍ය ආදියට හුරුවෙච්චි මිනිස්සු බලන්න, ඒ මිනිස්සුන්ට කිසීම ඉලක්කයක් නෑ, තමන්ගේ දරුවො කොහොමද, අනාගතේ ඒ දරුවන්ට යන කලදසාව මොකක්ද, තමන්ගේ පවුල් සංස්ථාවට යන කලදසාව මොනවාද මේ වගේ වගක් නැති මිනිස්සු ඉන්නවා නේද. ඒ මිනිස්සු අතරේ යම් කල්පනාවක් තියෙන මිනිස්සු ඉන්නවා, අනාගතයේ කරදර එන්න පුලුවන්. එහෙම වෙද්දි මං ඉතිරි කරපු ධනයක් මට තියෙන්න ඕන. අන්න එහෙම හිතෙන මනුස්සයා පොළොව ඇතුලට හාරලා බොහොම ආරක්ෂිත විදියට ධනය තැන්පත් කරනවා කියලා කියනවා නිධානයේ. අද කාලෙ හැටියට නම් අපි ධනය තැන්පත් කරන්නෙ බැංකු පොතේ. අපි විශේෂයෙන් බැංකු වල ගිණුම් ඇරලා අපි තැන්පත් කරනවා. ඉතින් ඒකත් නිධානයක් තමයි. රජවරුන්ට යම් යම් වස්තුව ගෙවා රැකවරණය ලැබීමටත්, ඒ කාලෙ තිබුනෙ රාජාණ්ඩු ක්‍රමයනෙ. මේ රජෙක් ඉන්නවා ඒ රජාව පරද්දලා තව රජෙක් රජ වෙනවා. රජ වෙච්චි ගමන් මොකද වෙන්නෙ ආණ්ඩු මාරු වෙනවා. ආණ්ඩු මාරුවෙද්දි ආණ්ඩු යටතේ ඉන්න මනුස්සයාට සමහර වෙලාවට අලුතෙන් රජවෙච්චි රජුගෙන් ඒ ආණ්ඩුවෙන් පීඩා එන්න පුලුවන්. අන්න ඒ වෙලාවේ යමක් කමක් වැඩිපුර තියෙනවා නම් රජ්ජුරුවන්ට යම් ගාණක් දීලා රජ්ජුරුවන්ව සතුටු කරන්න පුලුවන්, රජ්ජුරුවන්ගේ රැකවරණය ලබන්න පුලුවන්. සල්ලි අතේ තිබ්බොත්. අන්න ඒ නිසා ආණ්ඩුව මාරුවෙයි කියලා හිතන මනුස්සයා නිධානය තැන්පත් කරනවා තමන්ට රැකවරණයට.

හොරුන්ගෙන් වන පීඩා වලදී ඔවුන්ට වස්තුව ගෙවා නිදහස් වීම පිණිසත්. හොර හතුරු උවදුරු එන්න පුලුවන්, හොර හතුරෝ ඇවිල්ලා අපිට කරදර පීඩා කරන්න පුලුවන්. ඒ වෙලාවේ අතේ කීයක් හරි තිබ්බොත් උන්ට දීලා මේ ජීවිතේ ගලෝගන්න පුලුවන්. ණයකාරයන්ගෙන් නිදහස් වීමටත්, සමහර වෙලාවට මේ ජීවිතේ ගත කරගෙන යනකොට ඇතැම් අවස්ථා එනවා ණය අරගන්න සිද්ධ වෙන. අරගත්තු ණය පොලී වෙනවා. පොලී වුනාට පස්සෙ තමයි ණයකාරයො පස්සෙන් පන්නන්න පටන් ගන්නෙ. යමක් සඟවා තිබුනොත් යමක් එල ප්‍රයෝජනයට ගැනීම පිණිස වෙන් කරලා ගැඹුරු තැනක ආරක්ෂිතව තියලා තිබුනොත් තමන්ට ඒ හදිසි ණයකාරයෙක්ගෙන් බේරෙන්න ඒක ගොඩක් උපකාර වෙයි. අන්න එහෙම හිතලා ණය කාරයන්ගෙන් ගැලවීම පිණිසත් ධනය තැන්පත් කරනවා. ඒකත් නිධානය. දුර්භික්ෂ කාලයකදී ගැනීම පිණිසත්. ඇතැම් කාලවකවානු එනවා දුර්භික්ෂ. දුර්භික්ෂ කාල කියලා කියන්නෙ, දුර්භික්ඛ කියලා කියන්නෙ, භික්ෂාව ලබන්න අමාරු කාල. සමහර වෙලාවට ආහාර මිල අධික වෙන කාල එනවා. ආහාර හිඟ කාල වලට ආහාර ගොඩාක් මිල අධිකයි. අතේ වැඩිපුර කීයක් හරි තියෙනවා නම් ඒ කාලෙට වුනත් ආහාර ගන්න පුලුවන්. එහෙම හිතලත් නිධාන තැන්පත් කරනවා. අන්න ඒ අදහස් වලින් ඔය වගේ අදහස් වලින් තමයි මිනිස්සු නිධාන කියලා තැන්පත් කරන්නෙ තමන්ගේ වස්තුව. එතකොට ඒකෙන් අපිට හොඳට තේරෙනවා, යම් මනුස්සයෙක් නිධාන තැන්පත් කරනවා නම් නිධාන තැන්පත් කරන්නේ අනාගතයේ ආරක්ෂාවක් පතන මිනිහෙක්. අනාගතයේ ආරක්ෂාවක් පතන මනුස්සයෙක් තමයි අනාගතයේ රැකවරණයක් පතන මනුස්සයෙක්, අනාගතයේ ආපදා එන්න පුලුවන් කියලා හිතන මනුස්සයෙක් යම් ඉදිරිය ගැන කල්පනාවක් තියෙන මිනිහෙක් තමයි සාමාන්‍ය නිධානයක් හරි තැන්පත් කරන්නෙ. ඉතින් වතුරට යනකල් ගැඹුරට හාරලා බොහෝම සුරක්ෂිත විදියට මේ නිධානය තැන්පත් කලත්, හැම නිධානයක්ම, හැමදාම ප්‍රයෝජනයට ගන්න ලැබෙන්නෙ නැත කියනවා. කොච්චර ආරක්ෂිත විදියට පොළොව අස්සෙ හැංගුවත් නිධාන අහිමි වෙලා යනවා කියනවා. මොකක්ද වෙන්නෙ, එක්කො ඒ නිධානය තිබූ තැනින් වෙනස් වෙනවා. පින්වතුනි මේ පොළොවේ තියෙනවානෙ භූ විෂමතා වෙන අවස්ථා. සමහර වෙලාවට මතුපිටින් පොළොව හොඳට තිබුනට පොළොව ඇතුලෙන් කඩාගෙන වෙනස් වෙලා යනවා. පොළොව ඇතුලේ නිධානය තැන්පත් කරලා තිබුනොත් අර භූ විෂතාවය වෙනකොට අර පොළොව කොටස එහෙ මෙහෙ වුනොත් තමන් හාරපු තැන හැරුවට නිධානෙ

නෑ, ඒ කිච්ච තැනින් වෙනස් වෙනවා. එහෙම වෙනවා. එක්කො ඔහුට නිධන් කළ තැන අමතක වෙනවා. නිධාන තැන්පත් කලාට පස්සෙ තමන්ට විතරක් අඳුනගන්න යම් සටහනක් තියෙනවානෙ. ඒ සටහන සමහර වෙලාවට විනාශ වෙලා යනවා. සටහන විනාශ වුනාට පස්සෙ තමන් හැංගුවෙ කොතැනද කියලා අමතක වෙනවා. එක්කො නාගයො ඒ නිධානය තිබුනු තැනින් වෙනස් කරනවා. ඔන්න අපි නොදන්න එකක් ඒ. මේ පොළොව වැසි නාගයො ඉන්නවා, ඒකුන් මේ අනුන්ගේ නිධාන වෙනස් කරනවා. එක්කො යක්ෂයො ඒ නිධානෙ අරගෙන යනවා. එහෙම නැත්නම් අමනුස්ස කොට්ඨාස, යක්ෂ කොට්ඨාසත් මේ නිධාන අරගන්නවා. එක්කො ඔහුට නොපෙනෙන්නට, ඔහුට උරුමක්කාරයෙක් නිධානය ගොඩ ගන්නවා. එහෙම වෙන්නත් පුලුවන්. යම් දවසක පින ගෙවිලා ගියොත් ඔක්කොම වැනසිලා යනවා. ඔහුට ඒ නිධානයත් එක්ක තිබුනු සම්බන්ධය, ඒ පින ගෙවිලා ගියපු දවසට ඔක්කොම විනාශ වෙනවා. එහෙම නැත්නම් නිධානය තියෙද්දි මිනිහා මැරිලා යනවා. මනුස්සයා මියපරලොව ගියාට පස්සෙ ඒ මනුස්සයා කොච්චර ආසාවෙන් තැන්පත් කරලා තිබුනත් අර නිධානය ඔහුට අහිමි වෙනවා. දැන් ඔය තියෙන්නෙ අතීතයේ තැන්පත් කරපු නිධාන, සමහර විට අවුරුදු සිය ගාණකට කලින් තැන්පත් කරපු නිධාන. ඒ නිධාන තැන්පත් කරපු අය නාමමාත්‍රිකව වත් අපි දන්නෑ. නම් වත් දන්නෑ, නමත් නැතිව ගිහිල්ලා. හැබැයි නිධාන තාම තියෙනවා. ඉතින් ඒ වගේ. ඒ තැන්පත් කරපු අයට ඒවා අහිමි වෙලා යනවා. හැබැයි යම් කිසි ස්ත්‍රියක් හෝ වේවා, පුරුෂයෙක් හෝ වේවා දන් දෙනවා නම්, බලන්න මේ ශාසනය ඇතුලේ කියන කතාව හාත්පස වෙනස් එකක්. යම් ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් දන් දෙනවා නම් සිල් රකිනවා නම් සිත දමනය කරගෙන භාවනාවේ යෙදෙනවා නම් අන්න ඒක තමයි ඉතා හොඳින් තැන්පත් කල නිධානය. දැන් නිධානය කියලා සාමාන්‍ය මිනිස්සු හිතන්නෙ වලවල් හාරලා සල්ලි තැන්පත් කරන එක, තමන්ගේ වස්තුව තැන්පත් කරන එක. ශාසනය ඇතුලේ නිධානය කියනවා ඒ වස්තුවෙන් දන් දෙන එක. ඒ වස්තුවෙන් තමන් දාන මාන පූජා කරනවා නම් ඒකයි නිධානය. තමන් හොඳට සිල් රකිනවා නම් ඒකයි නිධානය. තමන් භාවනා කරන්න මහන්සි ගන්නවා නම් ඒක තමයි නිධානය. දාගැබ් වහන්සේලාටත්, ගුණවත් සංඝයාටත්, ආගන්තුකයන්ටත්, යම් පුද්ගලයෙකුටත්, මව්පියන්ටත්, වැඩිමහළු සහෝදර සහෝදරියන්ටත්, දන් දීම් ගෞරව දැක්වීම් ආදිය කරනවා නම් මනා කොට තැන්පත් කරපු මෙම නිධානය කාටවත් සොරකම් කරන්න බැහැ. එතකොට දානය පූජා කිරීම, සත්කාර

සම්මාන කිරීම කියන එක දාගැබ් වහන්සේලාටත් කරන එකක්. මේ බුද්ධ වචනයේ තියෙනවා. මේ බුද්ධ වචනයේ තියෙන කාරණා. දාගැබ් වහන්සේලාට සත්කාර සම්මාන වන්දනමාන දන්දීම් කරන්නේය කියලා. එතකොට මේ බුද්ධ වචනය අපි කියවලා තිබුනොත් බුදුරජාණන් වහන්සේ වදාළේ කුමක්ද කියලා අපි දන්නවා. ඒ කියවලා ඒක විශ්වාස කලොත්, එය අදහාගෙන හිටියොත් එහෙම භාග්‍යවතුන් වහන්සේ දේශනා කරපු අර්ථය ගැන අපිට හැඟීමක් එනවා. එහෙම නැතිවුනොත් පින්වතුනේ, අසත්පුරුෂයෙකුට පුලුවන් නිකං මොකක්හරි බොල් කතාවක් කියලා අපේ පින රැස් කරන්න තියෙන අවස්ථාවට හානි කරන්න. දැන් මං ඒ කාරණය කිව්වෙ රන්කොත් වෙහෙර මහාසෑ රජාණන් වහන්සේ අභියස අපේ ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේගේ මූලිකත්වයෙන් අනුශාසකත්වයෙන් අපි කරානෙ ඉතාම පිරිසිදු පැන් පූජාවක්. මහා පැන් පූජාවක් කලා. ඒ පැන් පූජාව කරනකොට අසත්පුරුෂ කාණ්ඩයක් ගරහන්න පටන් ගත්තා මේ සෑයට පැන් පූජාව කරද්දි, ඔය සෑයට වතුර තැන්පත් කලා කියලා සෑය ඔය වතුර බොනවාද. සෑය ඔය පැන් වළඳනවාද කියලා. අන්න අසත්පුරුෂයා ඔළුවට කුණක් දැම්මා. එතකොට බුදුරජාණන් වහන්සේගේ වචනය ගැන දන්නේ නැති උදවිය, ඊලඟට සත්පුරුෂයන්ගේ වචනය විශ්වාස කරන්නෙ නැති, සත්පුරුෂයන්ගේ ආශ්‍රයට වැටිච්ච නැති උදවිය අර අසත්පුරුෂයන්ගේ වචනය ගිල්ලා. ගිලලා ගරහන්න, අපහාස කරන්න මේවාට තමන්ගේ සිත කය වචනය පාවිච්චි කලා. ඉතින් හොඳට රැස් කරගන්න ඇති තමන්ගේ ජීවිතේට දුක් ගිනි උපද්දන බරපතල කර්ම ටිකක්. ඒ නිසා මේ කාරණා හොඳට තේරුම් ගන්න ඕන මූලික බුද්ධ භාෂිතය ඇසුරෙන්ම. බලන්න යම් ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් හෝ දාගැබ් වහන්සේලාට, ගුණවත් සංඝයාට, ආගන්තුකව පැමිණෙන අයට, වෙනයම් හෝ පුද්ගලයෙකුට, ඊළඟට මව්පියන්ට, වැඩිමහළු සහෝදර සහෝදරියන්ට ඒ හැමදෙනාට දන්දීම් කරනවා නම්, ගෞරව දැක්වීම් ආදිය කරනවා නම් මනාකොට තැන්පත් කරපු මේ නිධානය කාටවත් සොරකම් කරන්න බෑ. පරලොව යද්දි තමන්ගේ පස්සෙන්ම එනවා. ඔක්කොම අත්හැරලා පරලොව යන්න සූදානම් වෙනකොට මේ පුණ්‍ය නිධානය තමයි අරගෙන යන්න තියෙන්නෙ. හරීම ලස්සනයි. ඔක්කොම අත්හැරලා පරලොව යන්න සූදානම් වෙද්දි අපිට අරන් යන්න තියෙන්නෙ මොකක්ද, පුණ්‍ය නිධානය. රැස් කරගත්තු පින. අන්න එහෙනම් මැරිලා යද්දි අපිට අරගෙන යන්න දෙයක් තියෙනවා. සාමාන්‍යලෝකෙ අපිට තියෙන්නෙ ඔක්කොම අත්හැරලා යන්න. හැබැයි පින්

රැස් කලොත් අරගෙන යන්න දෙයක් තිබේ. ඒ අරගෙන යන්න තියෙන දේ තමයි පින. පින මේ කර බැදගෙන ඇදගෙන යා යුතු නෑ. පින පස්සෙන් පැමිණෙන්නේ සෙවණැල්ල සේය. සෙවණැල්ල කියන එක අපි පසුපස්සේ අපි අත්නොහැර හැමතිස්සේම තියෙනවා. ඒ වගේම රැස් කරන පින අත් නොහැර අපිත් එක්ක හැමතිස්සෙම ඉන්නවා සෙවණැල්ල වගේ. අන්න ඒ නිසා ඒ පුණ්‍ය නිධානය තමයි කියනවා කෙනෙකුට මරණයට පත්වෙලා යනකොට අරගෙන යන්න තියෙන්නෙ. එහෙනම් අපිට තේරෙනවා අපි අපේ ජීවිතේ පෞද්ගලිකව එකතු කරගත යුතු, තැන්පත් කළ යුතු වටිනාම දේ ඒකනෙ. ඇයි මේ ජීවිතේ අපිට දරුවොඉන්නවා, පරලොව යද්දි දරුවො අරන් යන්න බෑ. මේ ජීවිතේ අපිට ඥාතියො ඉන්නවා, පරලොව යද්දි ඥාතීන් එන්නෑ. මේ ජීවිතේ අපි ආදරය කරන අය ඉන්නවා. මැරිලා යනකොට ආදරේ කරපු අය අපි පස්සෙන් එන්නෙ නෑ. මේ ජීවිතේ අපිට වස්ත්‍ර තියෙනවා, මැරිලා යනකොට වස්ත්‍රයක් තබා නූල්පොටක් වත් අරන් යන්න බැහැ. මේ ජීවිතේ අපිට ආභරණ තියෙනවා, මැරිලා යනකොට මේ ආභරණ වලින් මුද්දක, අරුංගලයක දෙයක්වත් අපිට අරගෙන යන්න බැහැ. මේ ජීවිතේ අපිට තැන්පත් කරපු ධනය තියෙනවා, මැරිලා යනකොට මේ ධනයෙන් සොච්චමක්වත් අරන් යන්න පුලුවන්කමක් නෑ. මේ ජීවිතේ අපිට ගොඩාක් යානවාහන ආදිය තියෙනවා, මැරිලා යනකොට මේවගෙන් කිසි එකක් අපිට අරන් යන්න පුලුවන්කමක් ඇත්තෙ නෑ. මේ ජීවිතේ පරිහරණය කරන කයක් තියෙනවා අපි මේ කය අපි මේකප් කරනවා, මේ කයට බෙහෙත් කරනවා, මේ කය නොයෙක් නොයෙක් විදියට හැඩ කරනවා, හැඩ කර කර තියාගෙන ඉන්න කයක් තියෙනවා, අඩු ගානෙ මේ කයවත් මැරිලා යනකොට අරන් යන්න බෑ. එහෙනම් ඔක්කොම ටික දාලනෙ යන්නෙ. මොනවද අරන් යන්නෙ, අරගෙන යා හැකිදේ පුණ්‍ය නිධානයයි. පින රැස් කරලා තියෙනවා නම් ඒක අරන් යන්න පුලුවන්. මේ පුණ්‍ය නිධානය හැමදෙනාටම බෙදාගන්නට බැහැ. හොරුන්ට පැහැර ගන්නට බැහැ. තමා පස්සෙන් එන අන්න ඒ පුණ්‍ය නිධානයයි නුවණැත්තා පින් වශයෙන් කළ යුත්තේ. නුවණැත්තා, පින් වශයෙන් තමන්ගේ ජීවිතයට කරගත යුතු දේ පුණ්‍ය නිධානය රැස් කරගැනීම, අනාගතයක් ගැන හිතන, අනාගතේ පැමිණෙන්න පුලුවන් ආපදා ගැන හිතන, ඒ ආපදා වලින් ආරක්ෂා වෙන්නෙ කොහොමද කියලා හිතන තැනැත්තා තමන්ගේ ජීවිතයට ඔය පුණ්‍ය නිධානය රැස් කරන්න ඕන. සාමාන්‍ය මනුස්සයෙක් නිධානයක් තැන්පත් කරන්නෙත් අනාගතය ගැන හිතලා. පුණ්‍ය නිධානය යමෙක් රැස් කරගන්නෙත් හරියට අනාගතේ ගැන

හිතුවොත්. මේ ජීවිතේ මරණය කොයි තැනක, කෙසේ, කොයි වෙලාවේ පැමිණේද කියා මං දන්නේ නෑ, මං මැරෙන කෙනෙක් කියලා හිතන කෙනා පින් රැස් කරනවා. කොයි වෙලාවේ ඔත්පල වෙලා ඇඳට වැටෙන්න වෙයිද දන්නෙ නෑ, ඒ අවස්ථාව කොයි වෙලේ එළඹෙයිද දන්නෙ නෑ, එසේ හිතන කෙනා වහා පින් රැස් කරනවා. කොයි වෙලාවේ කොයි මොහොතක පාරට බහින්න බැරි විදියේ ආපදා එයිද දන්නෙ නෑ, දැන් බලන්න මේ කාලෙ. අපි පින්වතුනේ පුණ්‍ය නිධානය ලෙස අපේ ජීවිතේ කොච්චර නම් පින් කරගන්න අපිට අවස්ථාව ලැබුනාද. අද ඒ ලැබිච්ච ඒවා ඔක්කොම අතීතෙට ගියා. අපි අපේ ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා අනුරාධපුරයේ ස්වර්ණමාලී මහාසෑරජාණන් වහන්සේගේ අභියස මහා පූජාවන් සිදු කලා. සෑරජාණන් වහන්සේ විදුලි ආලෝකයෙන් ආලෝක කරවලා පූජා කරවලා. සෑරජාණන් වහන්සේ වටා ඉතාම සුන්දර මල් සැරසිලි, දහස්පෙතියා ලක්ෂ ගණනින් මල් සැරසිලි කරලා පූජා කලා. ඔන්න අපි ඒ පින රැස් කරගත්තා. ඊටපස්සෙ රෑ එළිවෙනකල් ස්වර්ණමාලී මහාසෑ වර්ණනාව අසමින් සිත් පහන් කරමින්, කවි සජ්ඣායනා කරමින් බුදු ගුණ, දහම් ගුණ, සඟ ගුණ, සෑ වර්ණනාව මේවා සිහි කර කර ඔන්න පින් කරගත්තා. ඊටපස්සෙ අපි ගත්තොත් එහෙම සෝමාවතී මහාසෑරජාණන් වහන්සේ අභියස, වර්ෂාවේ තෙමි තෙමී බුදුගුණ කිය කිය අපි පින් රැස් කරගත්තා. රන්කොත් වෙහෙර සෑරජාණන් වහන්සේ අභියස රැය පහන් වෙනකල් බුදුගුණ, දහම් ගුණ, සඟ ගුණ අහ අහා වන්දනා කර කර පින් රැස් කරගත්තා. සෑරජාණන් වහන්සේට විදුලි ආලෝක, පැන් පූජා කරලා. සේරුවිල මංගල මහා සෑ රජාණන් වහන්සේ අභියස මහා එලවැල පූජාවක් කරලා ඒ එලවැල පූජාවෙන් අපි අපේ ජීවිතයට බොහෝ පින් රැස් කරගත්තා. ඉතින් මේ විදියට අපි පින් රැස් කරගත්තා. හැබැයි මේ වෙද්දි? මේ වෙද්දි අපිට සෑයක් වන්දනා කරන්න අපහසු අවකාශයක් උදාවෙලා. අපිට අර විදියේ මහා වන්දනාවක් තියා පෞද්ගලිකව වන්දනාවක් කරගන්නට පසුබිමක් නැතිවෙනගානට අනාරක්ෂිත වෙලා. අපි රැකිලා ඉන්න ඕන කාලයක් එළඹිලා. ජේනවා නේද අවස්ථා අහිමි වී යන හැටි. ආන්න ඒ නිසා පින්වතුනේ මේ කාරණය අනාගතය ගැන නුවණින් හිතන කෙනෙක් සිතිය යුතු එකක්. අන්තවාදීන්ගේ අරගල එන්න පුලුවන්. අන්තවාදීන්ගේ අරගල ඇවිල්ලා ඒ අන්තවාදීන් පිල් වශයෙන් බෙදිලා මරන්න කපන්න පටන් ගන්නකොට අහිංසකයෙකුට පාරකට බහින්න බැරි, අනිත් මිනිස්සුන්ට නොපෙනෙන විදියට හැංගිලා ඉන්න පුලුවන් කාලයක් එන්න

පුලුවන්. අන්න ඔක්කොම අහිමි වෙනවා. අන්න එහෙම කෙනෙක්, හිතන්න ඕන තමන්ගේ ජීවිතයට පැමිණිය හැකි ආපදා. ආපදා ගැන සිතලා නුවණැත්තා තමන් පසුපසින්ම පැමිණෙන, තමන්ට රැගෙන යා හැකි කිසි කෙනෙකුට තමන්ගේන් පැහැර ගත නොහැකි දේ ලෙස රැස් කරන්නේ කුමක්ද, පිනමයි. පිනමයි රැස් කරන්නෙ. ඒක වෙන කිසි කෙනෙකුට හොරෙන් ගන්න බෑ. දෙව් මිනිසුන්ට තමන් කැමැති හැම සම්පතක්ම ලබාදෙන්නෙ මේ පුණ්‍ය නිධානයෙන් තමයි. යමෙක් යම් දෙයක් ප්‍රාර්ථනා කරනවා නම් ඒ සියල්ලම මේ පුණ්‍ය නිධානයෙන් ලබාගන්න පුලුවන්. ලස්සන රූපයක් ලැබෙන්නටත්, මිහිරි ස්වරයක් ලැබෙන්නටත්, මනා අඟ පසඟින් යුතුව සුන්දර සිරුරක් ලැබෙන්නටත් ඉහළ සමාජ තත්වයක් ඇතිව පිරිවර සම්පත් ලැබෙන්නටත් මේ පුණ්‍ය නිධානය හේතු වෙනවා. එහෙම තමයි පින් කලොත්. ප්‍රාදේශීය රජකම ලැබෙන්නටත්, සැප සම්පත් ලැබෙන්නටත්, ප්‍රියමනාප වූ සක්විති සැප ලැබෙන්නටත්, දෙව්ලොව දිව්‍ය සම්පත් ලැබෙන්නටත්, මේ හැමදේකටම මේ පුණ්‍ය නිධානය හේතු වෙනවා. මිනිස් ලොව සැපත්, දිව්‍ය ලෝක සැපත් තව සැප ඇත්නම් ඒවාත්, ඒ අමා නිවන් සුවයත් යන මේ හැමදෙයක්ම දාන, සීල, භාවනා තුළින් ලබාගන්නා පුණ්‍ය නිධානයෙන් ලබාගත හැකියි. එතකොට බලන්න මානුසිකාච සම්පත්ති - මනුස්ස ලෝක සම්පත්තිය, දේවලෝකේච යාරති - මහා සැප ඇති දිව්‍ය සම්පත්තිය, යාච නිබ්බාන සම්පත්ති - යම් නිර්වාණ සම්පත්තියක් ඇත්ද, ඒ නිවන් සැප, මේ සියල්ල පුණ්‍ය නිධානයෙන් ලැබේ. සමාධිය ඇති කරගැනීමටත් යෝනිසෝමනසිකායේ යෙදීමත් නිසා අවිද්‍යා විමුක්තිය වශයෙන් ලබන චිත්ත දියුණුව කරා යන්නටත් ඒ ගුණ ධර්ම කෙරෙහි සිතේ වසඟය පවත්වන්නටත් මේ හැමදේකටම පුණ්‍ය නිධානය හේතු වෙනවා. මේක නම් නිධානයක්මයි, පින් කිරීම. අර්ථ, ධර්ම, නිරුක්ති, ප්‍රතිභාණ යන පටිසම්භිදාවන් අෂ්ට විමෝක්ෂයන්, ශ්‍රාවක බෝධිය, පසේ බුදු බව, සම්මා සම්බුදු බව මේ හැමදේකටම හේතු වෙන්නෙ පුණ්‍ය නිධානයයි. ඔය විදියට යම් ඒ පුණ්‍ය සම්පත්තියක් ඇත්ද එය විශාල යහපතක් සළසනවා. ඒ නිසයි ප්‍රඥාවන්ත සත්පුරුෂයන් කල පින් ඇති බව ගැන ප්‍රශංසා කරන්නෙ. ඒ නිසා හොඳට පින් කරගන්න ඕන. හොඳට පින් කරගත්තොත් ඒ පින් කරගත්ත කෙනාට ආරක්ෂාව ලැබෙනවාමයි. ආරක්ෂාව ලැබෙනවාමයි පින් කරගත්ත කෙනාට. ඉතින් අර විදියට පින් කරගත්තානෙ ඇය මීට අනූ එක් කල්පයකට පෙර. දැන් අපි මේ අර්හත් උත්තමාවියක්ගේ චරිතාපදානයනෙ ඉගෙන ගන්නෙ. මීට අනූ එක් කල්පයකට පෙර ඔන්න කුම්බදාසියක්ව සිටියදී, ඇය

සඟරුවන විෂයෙහි අග්ගලා පූජා කොට පුණ්‍ය නිධානයක් තැන්පත් කලා, ඊටපස්සෙ අර අනූ එක් කල්පය පුරාවට ඔය විදියට සිත කය වචනයෙන් පුණ්‍ය නිධානයම රැස් කලා. ඒ නිසා ඇය ආරක්ෂා වී පැමිණිලා අපේ බුදුරජාණන් වහන්සේ ගෞතම අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළ වෙන කාලෙ කොසොල් රටේ උපන්නා ඇගේ නම උත්තමා. ඇය තරුණ වයසට එනකොටම ඇයට සත්පුරුෂ කළ්‍යාණමිත්‍ර තෙරණින් වහන්සේලා ඇසුරු කරන්න ලැබුනා. ඒ තුළින් ඇය උපාසිකාවක් බවට පත්වුනා. බුද්ධං සරණං ගච්ඡාමි, ධම්මං සරණං ගච්ඡාමි, සංඝං සරණං ගච්ඡාමි කියලා ඇය තෙරුවන් සරණ ගිය උපාසිකාවක් බවට පත්වෙලා ගුණධර්ම පූරණය කරන්න පටන් ගත්තා කියනවා. ඉතින් ඔහොම පින් පුරාගෙන යනකොට සත්පුරුෂ ඇසුරේ ඉන්නකොට ඇටත් හිතෙනවා පැවිදි වෙන්න. දෙමව්පියන්ගෙන් අවසරයත් ලැබුනා. ඈ පැවිදි වුනා. පැවිදි වෙලා නොබෝ කලකින්ම ඇට පුලුවන් වුනා මේ ලෝකයේ ලබන්න තියෙන සැප අතර අග්‍රම සැපය, සියලු දුක් සන්සිඳීමෙන් ලබන සැපය සියලු කෙලෙස් සංසිඳවා ලබන සැපය කෙලෙස් පීඩා කිසිවක් නැති සැපය, ඒ උතුම් නිවන් සැපය ලබාගන්න ඇට වාසනාව ලැබුනා. ඉතින් ඒ උත්තමා තෙරණිය අර්හත්වයට පත්වෙලා මේ ථෙරී ගාථා වදාළේ. ඉතින් මේ ථෙරී ගාථා ගැන කියවනකොට තේරෙන්නෙ බොහෝ දුරට උත්තමා අර්හත් තෙරණිය පිරිනිවන් පාන මොහොතේ වෙන්න පුලුවන් පින්වතුනි මේ ථෙරීගාථාවන් ඒ උත්තමාවිය වදාළේ. මොකද දැන් මේ ථෙරිගාථා වල ඒ උත්තමාවිය තමන් වහන්සේගේ අර්හත්වය ප්‍රකට කරවනවා, තමන් සියලු කෙලෙස් නැසූ බව, එතකොට ඒ විදියට අර්හත් උත්තමාවියක් කරන්නෙ අනිත් වීර්යය වඩන භික්ෂුණීන්ට වීර්යය උපදින්න. ගෞරව සත්කාර සම්මාන ලබන අදහසකින් නෙවෙයි. එතකොට තමන් වහන්සේ පිරිනිවන් වඩින වෙලාවේ මේ විදියේ ගාථා කියලා පිරිනිවුනහම අර ජීවත් වෙලා ඉන්න ධර්මයේ හැසිරෙන භික්ෂුණීන්ට, පශ්චිම ජනයාට හිතක් උපදිනවානෙ, අනේ එහෙනම් ඒ උත්තමාවියත් නිවනේ සැනසුනා. ධර්මයේ හැසිරිලා අපිත් නිවන් සුව අවබෝධ කරගන්න ඉක්මණින් ධර්මයේ හැසිරෙන්න ඕන කියලා. ඉතින් බලන්න ඒ උත්තමාවිය වදාළා ගාථා. බුදුසමිදාණන් තමයි අමා නිවනට පමුණුවන මේ සප්ත බොජ්ඣංග ධර්මයන් වදාළේ. මේ බුද්ධ ශාසනය ඇතුලේ තමයි මේ නිවනට පමුණුවන බොජ්ඣංග ධර්ම හත තියෙන්නෙ. ඒවට බොජ්ඣංග බොජ්ඣංග කියලා කියන්නේත් අවබෝධයට පමුණුවන නිසා. අවබෝධයට හේතුවෙන අංග නිසා. බෝධි අංග කියන අර්ථයෙන් බොජ්ඣංග කියා කියයි.

ඒවා නම් කුමක්ද, සති සම්බොජ්ඣංගය - සිහිය නම් වූ සම්බෝධි අංගය, ධම්මවිචය සම්බොජ්ඣංගය - දහම විමසීම නම් වූ සම්බෝධි අංගය, විරිය සම්බොජ්ඣංගය- වීර්යය නම් වූ සම්බෝධි අංගය, පීති සම්බොජ්ඣංගය - ධර්මයේ හැසිරෙද්දී හටගන්න ධර්ම ප්‍රීතිය නම් වූ සම්බෝධි අංගය, පස්සද්ධි සම්බොජ්ඣංගය - ධර්මයේ හැසිරෙන කොට හටගන්න කායික, මානසික සැහැල්ලුව පස්සද්දි නම් වූ සම්බෝදි අංගය, සමාධි සම්බොජ්ඣංගය - කුසල් හිතක සිත ඒකාග්‍ර කරගැනීමෙන් ලබන සමාධිය නම් වූ සම්බෝධි අංගය, උපෙක්ඛා සම්බොජ්ඣංගය - උපෙක්ෂාව නම් වූ සම්බෝධි අංගය. මේවා වදාළේ කවුද, බුදුරජාණන් වහන්සේ. මං ඒවා ඔක්කොම ඒ විදියටම අනුගමනය කලා. භාග්‍යවතුන් වහන්සේ වදාළ විදියටම බොජ්ඣංග ධර්ම දියුණු කලා. මං කැමැති විදියට ශූන්‍යතා සමාපත්ති, අනිමිත්ත සමාපත්ති මං ලබාගත්තා. දැන් මං බුදු සමිඳුන්ගේ හදවතින් උපන් දියණියක්. බුදු සමිදුන්ගේ හදවතින් උපන් දියණිය කියන්නේ කාටද? අර්හත් තෙරණිවරුන්ට. අර්හත් තෙරණිවරුන්ට කියනවා භාග්‍යවතුන් වහන්සේගේ ළය මඬලින් උපන් දියණිවරු. රහතන් වහන්සේලාට කියනවානෙ ශාස්තෘන් වහන්සේගේ ළය මඬලින් උපන් පුත්‍රයො කියලා. අර්හත් තෙරණිවරුන්ට කියන්නෙ ශාස්තෘන් වහන්සේගේ ළය මඬලින් උපන් දියණිවරු. මං හැමතිස්සේම නිවනට ඇලිලයි ඉන්නෙ. දිව්‍ය මානුෂික හැම කාමයක්ම මුලින්ම නසලා දැම්මා. ඉපදෙන සංසාරෙ ගෙවලා දැම්මා. දැන් ඉතින් ආයෙමත් භවයක් නෑ. ආයෙ ආයෙමත් ඉපදි ඉපදි යන ගමනෙන් නිදහස් වුනා කියලා ඒ උත්තමාවිය වදාළා. ඉතින් පින් බලයෙන්ම පින්වතුනි තමන්ගේ ජීවිතයේ අවසානයේ නිවන කරාම මෙහෙයවාගත්ත වාසනාවන්ත ජීවිත. ඒ අර්හත් තෙරණිවරු. උත්තමා තෙරණිය කියන ඒ අර්හත් උත්තමාවියට අපි නමස්කාර කරමින් අපිත් ප්‍රාර්ථනා කරමු, අපිත් පුණ්‍ය ප්‍රාර්ථනා එකතු කරමු අපටත් සුවසේ පින් පුරාගෙන සුවසේ දහම් මග දියුණු කරගෙන, ඒ උත්තමා අර්හත් තෙරණිය ඇතුලු රහත් තෙරණිවරු නිවී සැනසුනු උතුම් රහතන් වහන්සේලා නිවී සැනසුනු අමා මහ නිවනේ සැනසෙන්න වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!!

අද දවසේ මේ උතුම් ධර්ම දානය තුළින් අප රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අනුමෝදන් කරමු අපි සියලු දෙවිවරුන්ට, සක්දෙවිඳුන්, සතර වරම් දෙවිවරු, සෙන්පති දෙවිවරු, මේ සියලු පින් අනුමෝදන් වේවා, අපගේ ඉෂ්ටකාමී හිතකාමී සියලු දෙවියෝ සතුටින් පින් අනුමෝදන් වෙත්වා. ශ්‍රීමත් සුමන සමන් දෙව් රජු ප්‍රධාන ලංකා භූමිය සුරකින සියලුම දෙවිවරු පින් අනුමෝදන් වෙලා

දෙවියෝ දිව්‍ය සැපයෙන් වැඩේවා. ඒ සියලු දෙවියෝ අපි හැමදෙනාටම දෙවියන්ගේ සියලු ආරක්ෂාව, ආශිර්වාදය නොඅඩුවම සළසත්වා, සාදු සාදු සාදු!!! ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට පින් අනුමෝදන් වෙලා නිදුක් නිරෝග සුව සැලසේවා, දීර්ඝායුෂ සැලසේවා, ගෞතම ශාසනය තුළ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අද ධර්ම දානමය පින්කම සිදු කරන ඒ පින්වතුන්ලාගේ ප්‍රධාන අරමුණ ලෙස සළකුණු කොට තියෙන්නෙ පහලොස්වන විවාහ සංවත්සරය යෙදුනු පින්වත් නීලක සෙනෙවිරත්න සහ කළණි ලෝචනා හිත්තැටිය යන ඒ දෙපළටත් වයස අවුරුදු දහයක් වයසැති සෙත් සමදිත් රහල් සෙනෙවිරත්න පුතණුවන්ටත් මේ සියලු පින් අනුමෝදනා සිදු කිරීම. ඉතින් අද ධර්ම දානමය වශයෙන් රැස් වූ සියලූ පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදය බුද්ධ රත්නයේ, ධර්ම රත්නයේ, සංඝ රත්නයේ ආශිර්වාදය පින් පෙත් අනුමෝදන් වෙලා සතුටු සිත් ඇති සියලු දෙවියන්ගේ ආශිර්වාදය නීලක සෙනෙවිරත්න මහතාට කළණි ලෝචනා හිත්තැටිය මහත්මියට ඒ වගේම ඒ පින්වත් දෙපළගේ ආදරණීය පුතු සෙත් සමුදිත් රහල් සෙනෙවිරත්න පුතාට මේ සියලු පින් අනුමෝදන් වෙලා ඒ සියලු දෙනාට සියලු යහපත අභිවෘද්ධිය සැලසේවා. නිදුක් නිරෝග සුව සැලසේවා. සුවසේ ජීවිත ගත කරන්න අවකාශ සැලසෙත්වා. ජීවිතයට අභිවෘද්ධියම ලැබේවා. කායික සැප, මානසික සැප, කායික සැහැල්ලුව, මානසික සැහැල්ලුව උදාවේවා. බුදුරජාණන් වහන්සේගේ ශාසනය තුළ සුවසේ පින් පුරාගෙන, සුවසේ දහම් මග දියුණු කරගෙන චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා ඔබට. රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් මීට වසර 16 කට පෙර මියපරලොව ගිය ජයන්ත හිත්තැටිය පියාණන්ට අනුමෝදන් වෙලා ඒ වගේම නමින් මියගියා වූ සියලු ඥාතීන්ට පින් අනුමෝදන් වෙලා අපගේ ඥාතීන්ගේ පරලොව ජීවිත සැපයටම පත්වෙත්වා, දුක්ඛිත සංසාර ගමනෙන් ඥාතීන් නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනාව  සිදු කරන්න. කොරෝනා වෛරසය හේතුවෙන් රෝගාතුර වී සිටින ලක්වාසී ලෝකවාසී හැමදෙනාට ඉක්මණින්ම සුවය සැලසේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. සුජීවත්ව සිටින සරත් සෙනෙවිරත්න පියාණන්ට, ඩේසී සෙනෙවිරත්න මැණියන්ට, පුෂ්පා වීරකෝන් මැණියන්ට, නවීන්, ඉමල්කා, ඉසුරු, රේචල් යන සහෝදර සහෝදරියන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ධර්ම දානය සිදු

කරන සියලු දෙනාට, සුපින්වත් ඔබ සැම සියලු දෙනාට, ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාට, ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනී කාර්ය මණ්ඩලයේ හැමදෙනාට පින් අනුමෝදන් වෙලා, හැමදෙනාට නිදුක් නිරෝගී සුව සැලසේවා. දීර්ඝායුෂ සැලසේවා. රැකී රක්ෂා ආදී ඒ සියලු කටයුතු දරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදී සියල්ල සර්වප්‍රකාරයෙන් සඵල වේවා, ගෞතම ශාසනය තුළ සුවසේ පින් පුරාගෙන සුවසේ දහම් මග දියුණු කරගෙන චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න හැමදෙනාට වාසනාව ලැබෙන්වා, හැමදෙනාට තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=ZSy_ZAyMsOs

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද මේ ධර්ම දානය සිදු කරන්නේ බදුල්ල පළාත් මහරෝහලේ සේවයේ නියුතු පින්වත් වෛද්‍ය ඒ.ඩී. බුද්ධික ජීවන්ත මහතා සහ ඩබ්ලිව්.ජේ.එම්. උදයාංගනී මහත්මිය යන ඒ පින්වතුන්ලා විසින්. තමන්ගේ නමින් මියගියා වූ ඥාතීන්ට පින් අනුමෝදනා පිණිසත්, ඒ වගේම තමන්ගේ ජීවිතයේ කල්‍යාණමිත්‍රයන් බවට පත්වෙච්චි ඒ ගුරුවරු ඇතුළු හැමදෙනාට පින්පෙත් අනුමෝදනා කිරීම පිණිසත්, මේ ආදී උතුම් ප්‍රාර්ථනා ඇතුව තමයි අද ධර්ම දානමය පින්කම මේ විදියට සිද්ධ කරන්නෙ. ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු කියන මේ දේශනා මාලාවේදී අපි ඉගෙන ගන්නෙ මේ ජීවිතයේදී දමනය කරගත්ත උතුම් ජීවිතය දමනය කරගන්න තරම් වාසනාව තිබුනු ඇත්තෙන්ම අර්හත් තෙරණිවරු ගැන ඉගෙන ගන්නකොට ජීවිතේ දමනය කරගැනීමට වාසනාව තිබුනු කාන්තාවො ගැනයි අපි ඉගෙන

ගන්නෙ. ස්ත්‍රියක් විදියට ඉපදිලා වේවා, පුරුෂයෙක් විදියට ඉපදිලා වේවා ජීවිතේ දමනය කරගත්තා කියලා කියන්නෙ මේක පහසුවෙන් කරපු එකක් නම් නෙවෙයි. ඒක දුෂ්කර එකක්. හැබැයි ඒ දුෂ්කර කටයුත්ත කෙනෙකුට කරගන්න පුලුවන් වෙනවා පූර්‍ව ජාති වලදී රැස් කරගත්තු පින් බලයෙන්. පෙර ජාති වල රැස් කරගත්ත පිනක් තිබුනොත් පුබ්බේ ච කතපුඤ්ඤතා ඒතං මංගල මුත්තමං, පෙර කල පින් තිබීම යනු ජීවිතයට සෞභාග්‍යය උපදවන කරුණකි. ඒ අමා නිවන් දුටු රහතන් වහන්සේලා කියන දේශනා මාලාවේදී අපි ඉගෙන ගත්තා මීට පෙර රහතුන් ගැන, ඒ රහතන් වහන්සේලාගේ චරිතාපදාන ගත්තත් පින්වතුනේ ඒ උත්තමයන්ගේ ජීවිතේ තිබුනා පෙර කල පිනක්. දැන් මේ රහත් තෙරණිවරු ගැනත් අපි දේශනා කිහිපයක් මේ වෙද්දි කලා. ඒ ගැන ඉගෙන ගන්නකොටත් තේරෙනවා පෙර කරපු පින් තිබුනා. එහෙම නම් ඒ හැම ජීවිතයකම අපිට පේනවා පින කරගෙන ආපු බව. ජීවිතේට පින කරගෙන ආපු අය සියලු යහපත සලසාගත්තා. එහෙම නම් අපි අපේ ජීවිතේ යහපත කැමැති නම් අපි බොහෝ කොට කළයුත්තේ කුමක්ද, පින් කරගන්නා එකයි. පින් කරගැනීමට අවකාශ ලද මොහොතේ පින් කරගත යුත්තේය. පින් කරගැනීමට අවකාශ ලැබෙන මොහොතේ වහ වහා පින් කරගත යුත්තේය. එහෙම පින් කරගත්තොත් ඒ පිනෙන් ලැබෙන රැකවරණය ඔස්සේ තමන්ගේ ජීවිතයට සියලු යහපත හදාගන්න පුලුවන්. දැන් අද අපි ඉගෙන ගන්නෙ දන්තිකා නම් අර්හත් තෙරණියගේ චරිතාපදානය, ඒ වගේම ඒ උත්තමාවිය වදාළ ගාථා. ඒ උත්තමාවියගේ චරිතාපදානය ඉගෙන ගන්නකොට තේරෙනවා ඇගේ චරිතාපදානය ආරම්භ වෙන්නෙ මෙහෙම. ඈත අතීතයේ එක බුද්ධාන්තර කාලෙක පසේබුදුවරු වැඩ සිටි යුගයක- බුද්ධාන්තරයක් කියලා කියන්නෙ එක සම්බුදුරජාණන් වහන්සේ නමක් පහළ වෙලා ඒ බුදුරජුන්ගේ ශාසනය අතුරුදහන් වෙලා තවත් බුදුරජාණන් වහන්සේ නමක්ගේ ශාසනයක් ආරම්භ වීම අතර කාලය. ඒකට කියනවා බුද්ධාන්තරය. ඔය බුද්ධාන්තර වල පසේ බුදුවරුන්ගේ යුග හටගන්නවා. අන්න ඒ පසේ බුදුවරුන්ගේ යුගයක මැය ඉපදිලා හිටියා තිරිසන් යෝනියේ. ඈ කිඳුරියක්. ඒ කාලෙ තිබුනා දඹදිව නදියක් චන්ද්‍රභාගා කියලා. ඔය චන්ද්‍රභාගා කියන නදියේ ඈ කිඳුරියක්. මේ කිඳුරිය ඒ මේ අත පීනමින් මේ චන්ද්‍රභාගා නදියේ දවසක් ඉඳිද්දී ඇයට දකින්න ලැබෙනවා පසේ බුදුරජාණන් වහන්සේ නමක්. ඒ පසේබුදුරජාණන් වහන්සේ දුටු පමණින් ඇගේ සිත පැහැදීගියා. උන්වහන්සේගේ තිබුනු සන්සුන් ඉඳුරන්, උන්වහන්සේ ඉරියව් පවත්වන විදිය, මේවා දකිනකොට අර කිඳුරියට හිත පැහැදුනා. අනේ

සත්සිඳුනු කෙනෙක්, උත්තමයෙක්, එතකොට ඒ කිඳුරියට උන්වහන්සේට සත්කාරයක් කරන්න ඕන කියලා සිතක් උපදිනවා. ඒ කියන්නෙ ඒ කිඳුරියට චේතනාවක් පහළ වුනා මම මේ උත්තමයාට සත්කාර කළ යුතුයි. මේ ජීවිතය ඇතුලේ පහළ වෙන චේතනා වල එබඳු චේතනාවකට පුලුවන් අපේ ජීවිතයට සැප විපාක හදලා දෙන්න. සමහර වෙලාවට ගොඩාක් මේ ජීවිත වලට පහළ වෙන්නෙ හොඳ චේතනාම නොවේනෙ. එතකොට බලන්න කිඳුරියට හටගත්ත චේතනාව, ඈ තිරිසන් යෝනියේ ඉපදිලා, ඈට චේතනාවක් හටගන්නවා මේ උත්තමයාව පිදිය යුතුයි මං. කිඳුරිය ඒ චන්ද්‍රභාගා නදිය අයිනේ තිබුනු සල් ගහකින් සල් මල් කැඩුවා. සල් මල් කඩා පසේ බුදුරජුන්ට පූජා වේවා කියන අදහසින්, ඒ උත්තමයාට පූජා වේවා කියන අදහසින් ඈය ඒ මල් අතහැරියා. එතකොට ඒ මල් මේ ගහේ පිපිලා කොහොමත් පරවෙලා යන මල් ටික. ඈ නෙලා නොගත්තා නම් ඒ ගහෙන් ඒක පරවී යනවා. ඈ ගාව පූණ්‍ය චේතනාව නිසා, යහපත් චේතනාව නිසා පරවී යන මලක් ඈ තමන්ගේ ජීවිතේ යහපතට යොදාගත්තා. ඒ මල පරවී ගියේ ඈයට විශාල පිනක් උපද්දලා. මේවා හොඳට හිතට අරගන්න පින්වතුනි. මේ කාරණා මෙහෙම පැහැදිලි කරන්නේ පින්වතුනි අපි අපිටත් එහෙම අවස්ථාවක් තියෙන නිසා, පින් පුරාගන්න. අපිටත් එහෙම අවස්ථාවක් තියෙනවා පින් පුරාගන්න අපේ මේ නිවෙස් වල, අපේ ගමේ මල් හැදෙනවා. මේ මල් නිකං පරවෙලා යන්න දෙන්න එපා. මේ මල් ඔබට පින් පිරෙන විදියට පරවෙලා යන්න දෙන්න. ඒ මල් පරවෙද්දී ඔබ පිනක් එකතු කරගන්න. ඒ මල නිකං පරවෙලා වැටෙන්න දෙන්න එපා. ඒ කාලෙ පින්වතුනි අපේ අතීත සිංහලයො අපේ ආච්චිලා සීයලා මේ ලංකා ඉතිහාසයේ ගාථා තියෙනවා, ගහේ තියෙන මල් පූජා කරන. ඒවා මේ ලංකා භූමියේම හැදිච්චි ගාථා. ගහක තියෙන මල් පූජා කරන ගාථා. ඉතින් ආච්චි සීයා කෙනෙකුට ගහකට ගොඩ වෙලා හරි, එහෙම නැත්නම් තරුණ කෙනෙකුට වගේ අතු නමලා ඒ මල් කඩාගන්න බෑ. ආච්චි සීයා කෙනෙක් දකිනවා යනකොට ලස්සනට මල් පිපිලා තියෙනවා ගහක, ඒ ලස්සන මල් ගහ දැක්කහම ආච්චිලා සීයලා හිතලා තියෙනවා ආ, හරි අගේ ඇති මල් ටික. මේ වගේ හරි අගේ ඇති මල් ටිකක් මගේ බුදුරජාණන් වහන්සේටයි සුදුසු. මේ ගහේ තියෙද්දීම මං මේ මල් බුදුරජාණන් වහන්සේට පූජා කරනවා කියලා ගහේ තියෙන මල් පූජා කලා. බලන්න පින කියන එක එකතු කරන් තියෙන හැටි. ආන්න එහෙම තමයි නුවණින් පින් කරගත යුත්තේ. මේ කිඳුරි ඔන්න පිනක් එකතු කරගත්තා. ඒ පිනෙන් ඈ උපදිනවා දෙවියන් අතරේ. දෙවියන් අතරේදී සත්පුරුෂ ඇසුර ලබලා

ඈ තව තව පින් පිරුවා. තව තව පින් පුරනකොට ඒකෙ ප්‍රතිඵලය මොකක්ද, තව තව ආරක්ෂා වුනා. තව තව ආරක්ෂා වෙවී වෙවී අපේ තුන්ලෝකාග්‍ර ගෞතම අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ යුගය මහා සත්පුරුෂයන් වහන්සේ මේ ලෝකෙට පහළ වෙන කාලයේ ඒ මහා ආලෝකය ලෝකයේ පහළ වී තියෙන කාලෙ, ඒ සම්මා සම්බුදුරජාණන් වහන්සේ නම් වූ හිරුමඬල ලොව බැබළී බැබළී වැඩ හිඳිනා කාලයේ ඈ මනුස්ස ලෝකෙ උපදිනවා, කොසොල් රටේ, කොසොල් රජ්ජුරුවන්ගේ පුරෝහිත බ්‍රාහ්මණයාගේ දුව ඇය. ඇයගේ නම දන්තිකා. මේ දන්තිකාව තරුණ වයසට එනකොට තමයි ජේතවනාරාම පූජාව සිද්ධ වුනේ. අනේපිඬු සිටුතුමා ජේතවනාරාමය ඉදි කරලා මහා පින්කමක්, දහ අට කෝටියක වියදමින් මහා පින්කමක් කලානෙ. ඒ පින්කමට, ඒ කියන්නෙ ජේතවනාරාමය පූජා කරන පින්කමට කෝටි දහඅටක් වියදම් වුනා. අන්න ඒ කෝටි දහඅටක් වියදම් කරලා කරපු පූජාව කොහොම තියෙන්න ඇද්ද. ඒ මහා පූජාවේදී බුද්ධානුභාවය දැකලා ඈට විශාල ප්‍රසාදයක් හටගත්තා. ඒ හේතුවෙන් තමයි ඇය තෙරුවන් සරණ ගියෙ, නිතර කල්‍යාණමිත්‍ර ඇසුර කරන්න පටන් ගත්තේ ඒ හේතුවෙන්. ඒ වෙලාවේ තමයි ඇගේ හිත ශාසනය කෙරෙහි පැහැදුනේ. ඉතින් ඊටපස්සෙ ඇය අර්හත් තෙරණිවරු ඇසුරු කරනවා. ඒ අර්හත් තෙරණිවරු ඇසුරු කරද්දි ඇයට ප්‍රජාපතී ගෞතමී අර්හත් උත්තමාවියව නිතර නිතර ඇසුරු කරන්න ලැබුනා. ඇය සමීපයේම පැවිදි වුනා. පැවිදි වෙලා දැන් ඈත් ධර්මය ඉගෙන ගෙන වීර්යය වඩනවා. ඒ වීර්යය වඩද්දි සිද්ධිය තියෙනවා, හරි ලස්සනයි. ඒ කියන්නෙ නුවණ තියෙන කෙනෙකුට තමන්ගේ හිතට වීර්යයක් අරගන්න ඒ තමන්ගේ හිතට වීර්යය අරගැනීමේ නිමිත්ත කියන එක මොකක්ද කියලා අපිට කියන්න බෑ, නුවණ තියෙන කෙනෙක් තමන්ගේ හිතට වීර්යය අරගන්නේ මොනවගේ නිමිත්තකින් ද කියලා ඒක අපිට කියන්න බෑ, ඒක ඒ වීර්යවන්තයාටමයි තේරෙන්නෙ. දැන් මේ දන්තිකා භික්ෂුණිය වීර්යයෙන් ධර්මයේ හැසිරෙනකොට ඒ කාලෙ ඇය හිටියේ රජගහනුවර, ගිජ්ජකූටයේ. ඇය ගිජ්ජකූට පර්වතයට ගොඩවෙමින් ඉද්දි ඈ පහළ දකිනවා ඇත්ගොව්වෙක් ඇතෙක්ව අරගෙන යනවා. ඇත්ගොව්වත් චූටියි. ඇතා මහා සද්ධන්තයා. ඇතාව එකතුකරගෙන යනකොට මේ ඇත්ගොව්වා කියනවා, හා කකුළ ඔසවපං, අනේ මෙන්න මේ පුංචි පුංචි බලුකුක්කා වගේ කියන කියන වචනයට මේ ඇතා වැඩ කරනවා. ආ දැන් කකුල් දෙක ඔසවාපං, මෙන්න මේ ඇතා ඉස්සරහ කකුල් දෙක උස්සලා පිටිපස්සෙ කකුල් දෙකෙන් හිටගන්නවා. මේ පොඩි මනුස්සයා කියන වැඩ ටික

ඔක්කොම අර සද්දන්තයා කරනවා. එතකොට මේ දන්තිකා භික්ෂුණිය මේ දිහා බලාගෙන කල්පනා කලා, අසිරියක්නෙ මේක. අසිරියක්නෙ මේක, මහ කැළයට වෙලා කැළේ ඇතුලේ අනිත් සියලු සත්වයන්ට වඩා සද්දන්තයා වෙලා ඉන්න හස්තියා, මේ හස්තියා දරුණු ගති වලින් යුක්තයි, කැළේදී මනුස්සයෙක් හම්බුනොත් එහෙම අල්ලලා පොළොවේ ගහනවා. ඒ දරුණු සතාව මේ මිනිස්සු දමනය කරලා. මේ වගේ සැඩ දරුණු සතෙකුත් දමනය කළ හැකි නම් ඇයි බැරි මට මාව දමනය කරගන්න. ආන්න ඈ හිතටගත්තා. මට මාව දමනය කරගන්නයි ධර්මය තියෙන්නේ. මට මාව දමනය කරගන්නයි බුදුරජුන් ධර්මය වදාළේ. ඒක තමයි ඇය අරගත්ත නිමිත්ත. ඇත්තටම පින්වතුනි මේ ජීවිතේ දමනය කරගන්නයි භාග්‍යවතුන් වහන්සේගේ ධර්මය, බුදුරජාණන් වහන්සේගේ ධර්මය නිසා කීදෙනෙක් නම් දමනය වුනාද. බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරනකොට කොයිතරම් නම් පිරිසක් දමනය වුනාද. ඒ දමනය කියලා කියන්නෙ පෙළහරක්. ඔය කාරණය බුදුරජාණන් වහන්සේ අවස්ථාවක වදාළා පින්වතුනේ කේසී කියලා කෙනෙකුට. කේසී කියලා කියන්නෙ ඒ කාලෙ හරී ප්‍රසිද්ධයි අශ්වයො දමනය කරන්න, අශ්වයො හීලෑ කරන කුලයක්. අශ්වයො හීලෑ කරලා ඒ හීලෑ වෙච්චි අශ්වයො තමයි ඉතින් මෙයා රජවරුන්ට, ඒ වගේම අශ්වයො පරිහරණය කරන අයට දෙන්නෙ. කේසී හරී ප්‍රසිද්ධ වෙලා හිටියා එයාගේ ළඟ ඉන්න අශ්වයො හොඳටම දමනය වෙලා ඉන්නෙ කියලා. හොඳ නමක් හදාගත්තු මනුස්සයෙක්. බුදුරජාණන් වහන්සේ සමීපයට මෙයා එනවා. ආපු අවස්ථාවෙ භාග්‍යවතුන් වහන්සේ මේ කේසීගෙන් අහනවා, කේසී ඔබ අස්සධම්මසාරථී, අශ්වයො දමනය කරන්න හරි දක්ෂයාය කියලා මේ සමාජයේ හරි ප්‍රසිද්ධියක් තියෙන කෙනානෙ. ඇත්තටම කේසී ඔය අශ්වයො ඔබ කොහොමද දමනය කරන්නෙ. එතකොට මේ කේසී කියන්නෙ ස්වාමීනී ඉතින් අශ්වයා කියලා කියන්නෙ කැලේ ඉන්න සතානෙ. ඕකාව අල්ලගෙන එද්දි නම් ඕකා හීලෑ වෙලා නෑ, ඕකා හරී දරුණු ගතිගුණයෙන් යුක්ත එකා. අපි කරන්නෙ ස්වාමීනී ඕකාව අරගෙන ඇවිල්ලා, ඕකාව මෘදු විදියට දමනය කරන්න උත්සාහ කරනවා. මෘදු විදියට දමනය කරන්න උත්සාහ කරද්දි ඇතැම් අශ්වයො ස්වාමීනී පහසුවෙන් දමනය වෙනවා. එතකොට ඒ උපක්‍රමයෙන් අපිට උගව දමනය කරගන්න පුලුවන් කිව්වා. බුදුරජාණන් වහන්සේ හරි කේසී මෘදු විදියට දමනය කරනකොට හැම අශ්වයාම දමනය වෙනවාද. නෑ ස්වාමීනී, ඇතැම්හු මෘදු විදියට දමනය වෙන්නෑ, එතකොට කේසී ඔබ මොකද කරන්නෙ. ස්වාමීනී අපි ඊටපස්සෙ උගව පරුෂ විදියට දමනය

කරන්න උත්සාහ කරනවා, ටිකක් තද වැඩපිළිවෙලක් අපි යොදනවා. උඟ ඕනවට වඩා හිතුවක්කාර වෙනවා නම් අපි උඟව පරුෂ විදියට දමනය කරන්න බලනවා. පරුෂ විදියට දමනය කරන්න බලද්දි ඇතැම් වෙලාවට උන් දමනය වෙනවා, එතකොට ස්වාමීනී වැඩේ හරි කිව්වා. ඉතින් බුදුරජාණන් වහන්සේ ඇහුවා, ඉතින් කේසී මෘදු විදියට දමනය උත්සාහ කරලා ඒක හරිගියේ නැතිවම පරුෂ විදියට දමනය කරන්න උත්සාහ කරද්දී ඔක්කොමලා දමනය වෙනවාද. කිව්වා ස්වාමීනී ඒත් නෑ. ඇතැම්හු එහෙම දමනය වෙන්නෙත් නෑ, එතකොට කේසී ඔබ මොකද කරන්නෙ? ස්වාමීනී එහෙම වෙලාවට අපි මෘදු විදියයි පරුෂ විදියයි කියන දෙකම යොදලා බලනවා, මේ දෙකේන්ම මූ දමනය වෙනවද කියලා. එතකොට ස්වාමීනී උන් දමනය වෙනවා කිව්වා. එතකොට බුදුරජාණන් වහන්සේ අහනවා, කේසී මෘදු විදියයි, පරුෂ විදියයි කියන දෙකම අනුගමනය කරද්දි, එතකොට ඉතින් ඔක්කොම දමනය වෙනවාද. ස්වාමීනී සමහර එවුන් ඉන්නවා එහෙමත් දමනය වෙන්නේ නැති. කේසී එහෙම වුන්ට ඔබ මොකද කරන්නෙ, ස්වාමීනී එහෙම එවුන් අපි කරන්නෙ හීන්සීරුවෙ කැලයට එකතු කරගෙන ගිහිල්ලා අපි මරලා දානවා. අපි මරලා දානවා ස්වාමීනී මොකද ස්වාමීනී අපේ මේ අශ්වයෝ දමනය කරන කුලයට නිගාවක් වෙන්නෙපා කියලා. කේසීගේ කුලයට අහවල් අශ්වයා දමනය කරගන්න බැරිව ගියා කියන රාවය මේ සමාජයේ පැතිරෙන්න එපා කියන අදහසින් අපි ඒ අශ්වයාව නම් ස්වාමීනී මරලා දානවා කිව්වා. එතකොට භාග්‍යවතුන් වහන්සේ ඔය කාරණය විමසලා අවසන් වුනාම දැන් කේසීටත් ප්‍රශ්නයක් තිබුනා. කේසී අහනවා ස්වාමීනි, අශ්වයෝ දමනය කිරීම කියන කාරණය ගත්තහම ඒක ගොඩාක් දුෂ්කර දෙයක් විදියට මං දකින් නෑ. මොකද ස්වාමීනී ඔය කැලෑ අශ්වයා කියන එකා හිතේ තියෙන එකමයි ප්‍රකට කරන්නෙ. අශ්වයාගේ අභ්‍යන්තර ස්වභාවය උඟ ප්‍රකට කරනවා. උඟව කැලෙන් අල්ලගෙන අපේ වාසස්ථාන වලට අපි අරගෙන එන ටිකට උඟ මොන ජාතියේ එකෙක්ද කියලා උඟ ප්‍රකට කරලා ඉවරයි. අපිට උඟව අඳුනගන්න පුලුවන්. මේකා මේන්න මේ විදියේ ගති ලක්ෂණ වලින් යුක්ත එකෙක් කියලා. නමුත් ස්වාමීනී මිනිස්සු, මිනිස්සු හිතින් එකක් හිතනවා, හිතින් හිතන එක නෙවෙයි කියන්නෙ. හිතින් හිතලා කියන එක නෙවෙයි මිනිස්සු කරන්නෙ. ස්වාමීනී මෙබඳු මනුස්සයාව නම් අඳුරගන්න දුෂ්කරයි. ඒ වුනාට බුදුරජාණන් වහන්සේ හරී ප්‍රසිද්ධයි, අනුත්තර පුරිසධම්මසාරථී, පුරුෂයන් දමනය කිරීමෙහි ලා අනුත්තරීය වන සේක කියලා. ස්වාමීනී හිතාගන්න බෑ මට ශාස්තෘන් වහන්සේ කොහොමද මේ පුරුෂයන්ව දමනය

කරන්නෙ. බුදුරජාණන් වහන්සේ වදාළා කේසී ඔබ අශ්වයෝ දමනය කරන්න ගන්න ක්‍රමම තමයි, ශාස්තෘන් වහන්සේත්, ශාස්තෘන් වහන්සේ සමීපයට දමනය වෙනු කැමැතිව පැමිණෙන පුරුෂයාට, ඒ ස්ත්‍රියට මෘදු විදිය පාවිච්චි කරනවා. ඒ මෘදු විදිය කියලා කියන්නේ මොකක්ද කේසී බුදුරජාණන් වහන්සේ පින ගැන කියලා දෙනවා. පිනෙන් සැලසෙන යහපත ගැන කියලා දෙනවා. පින නිසා සුගතියේ උපතේ රැකවරණය ගැන කියලා දෙනවා. පිනෙන් උපදින සැප ගැන කියලා දෙනවා. අන්න එහෙම කියලා දෙනකොට මේ ධර්මය තුළ ඇතැම් ස්ත්‍රීන් ඇතැම් පුරශයො දමනය වෙනවා. ඒ තමයි බුදුරජාණන් වහන්සේ දමනය කරන ක්‍රමය. සිත කය වචනයෙන් පින් කරගන්න. සිත කය වචනයෙන් පින් කරගත්ත කෙනාට සැප ලැබෙනවා. පිනෙන් උපදින්නේ සැපයමයි. පින් කරගත්ත කෙනාට සුගති රැකවරණය ලැබෙනවා කියලා මේ කාරණය බුදුරජාණන් වහන්සේ කියලා දෙනවා. මේ තමයි මෘදු දමනය. පින ගැන අහන්න ලැබෙනකොට දමනය වීමක් තියෙනවානෙ. ඇතැම්හු පිනට ගොඩාක් ආසය කරන අය ඉන්නවානෙ. පිනක් කරගන්න ඕන කියලා කැමැත්තෙන් ඉන්න අය. පින් කිරීම ගැන බලාගෙන ඉන්න අය. එහෙම පිරිස් ඉන්නවා. ඒ මෘදු දමනයෙන් ඇතැම්හු දමනය වෙනවා. කේසී අහනවා ස්වාමීනී ඉතින් ඔය විදියට පින ගැන කියලා දෙනකොට පිනෙන් උපදින සුගති සැපය ගැන කියලා දෙනකොට හැමෝම දමනය වෙනවාද? එතකොට භාග්‍යවතුන් වහන්සේ වදාළා නෑ කේසී හැමෝම නම් දමනය වෙන්නෙ නෑ. එතකොට ස්වාමීනී ඔබ වහන්සේ මොකද කරන්නෙ? එතකොට කේසී ශාස්තෘන් වහන්සේ තථාගතයන් වහන්සේ දමනය වෙනු කැමැති කෙනා වෙනුවෙන් පරුෂ විදිය පාවිච්චි කරනවා. මේ පරුෂ විදිය කියලා කියන්නෙ මොකක්ද, දුගතිය ගැන කියලා දෙනවා. දුගතියේ තියෙන භයානක විපාක කියලා දෙනවා. දුගතියේ උපදින්න හේතුවෙන්නේ පව් කිරීමෙන් කියලා කියලා දෙනවා. පවේ තියෙන කටුක කර්කශ විපාකය කියලා දෙනවා. දැන් පේතවත්ථුව වගේ ගත්තහම ඒ කාරණා ඉගෙන ගන්නකොට අපිට තේරෙනවා පව් කරපු අය සිත කය වචනයෙන් පව් කරපු අය තමයි මෙතන ගිහිල්ලා ඉපදිලා ඉන්නෙ. අන්න ඒ කාරණා කියලා දෙනවා. ඒ කරුණු කාරණා විග්‍රහ කරලා දෙනකොට ඇතැම්හු දමනය වෙනවා කිව්වා. එතකොට කේසී අහනවා ස්වාමීනී පරුෂ විදියට දමනය කරනකොට පව ගැන පවේ විපාක ගැන, දුගතිය ගැන, දුගතියේ විඳවන්න තියෙන දුක් ගිනි ගැන කෙනෙකුට කියලා දෙනකොට ඒ තුලින් ස්වාමීනී ඔක්කෝමලා දමනය වෙනවාද. බුදුරජාණන් වහන්සේ වදාළා කේසී එහෙමත් නෑ. ඇතැමෙක් දමනය වෙනවා,

ඇතැමෙක් දමනය වෙන් නෑ. ස්වාමීනී එතකොට ඔබවහන්සේ මොකද කරන්නෙ? එතකොට කේසී තථාගතයන් වහන්සේ මෘදු විදියටත්, පරුෂ විදියටත් කියන දෙවිදියටම දමනය කරනවා. ඒ කෙනාට පින් කිරීම, පිනේ සැපය, පිනේ යහපත ගැනත් කියාදෙනවා. පව් රැස් කිරීම, පවේ දුර්විපාක, පව හේතු කරගෙන දුගතියේ ඉපදිලා විඳවන්න වෙන දුක්ගිනි ගැන මේවා ගැන කියලා දෙනවා. මේ දෙකම විග්‍රහ කර කර විග්‍රහ කර කර කියාදෙද්දි ආන්න ඒ කෙනාට දමනය වීම කියන එක උපදිනවා. දැන් බලන්න මේ ශාසනය ඇතුලේ ශාස්තෘන් වහන්සේ කොච්චර කරුණාවකින්ද මේ ධර්මය කියාදෙන්නෙ කියලා. බුදුරජාණන් වහන්සේ පින ගැන බොහෝ කාරණා වර්ණනා කරලා තියෙනවා. රහතන් වහන්සේලාත් පින ගැන ගොඩාක් වර්ණනා කලා. එතකොට ඒ පින ගැන තියෙන වර්ණනා අදටත් අපේ මහසඟරුවන ලොකු කැපකිරීමකින් ආරක්ෂා කරගෙන ආපු නිසා මේ ධර්ම විනය තුළ අදටත් බොහෝ කාරණා අපිට ඉගෙන ගන්න ලැබෙනවා. ඒ කරුණා කාරණා දැනගද්දි අන්න මෘදු දමනයට අවකාශය අදටත් තියෙනවා. පින ගැන හොඳට ඉගෙන ගන්නකොට පින් කිරීම නිසා සැප ලැබෙනවා කියන කාරණය, පින් කිරීමෙන් සුගති රැකවරණ ලැබෙනවා කියන කාරණය, ඒවා ඉගෙන ගන්නකොට කෙනෙකුට සිත කය වචනය හොඳට පින් කරගන්න හිතක් උපදිනවා. අන්න ශාසනයට යොමු වෙලා මේ ශාසනය තුළ එයා ධර්මය පුරුදු කරන්න පටන් ගන්නවා. ඒකට අදටත් අවකාශ නැද්ද? අදටත් හොඳට අවකාශ තියෙනවා. මෘදු දමනයට, ඒකනෙ පින්වතුනි ධර්ම විනයට ශාස්තෘන් වහන්සේ කියලා කියන්නෙ. අදටත් මෘදු දමනයට අවකාශ තිබේ. ශාස්තෘන් වහන්සේ වන ධර්ම විනය තියෙන නිසා. බුදුරජාණන් වහන්සේ පිරිනිවන් වඩින මොහොතේ වදාළා, මහණෙනි, තථාගතයන් වහනසේගේ ඇවෑමෙන් ඔබට ශාස්තෘන් වහන්සේ වන්නේ, බුදුරජාණන් වහන්සේ දේශනා කරපු ධර්මයත්, විනයත් ය කියලා. භාග්‍යවතුන් වහන්සේ ඒ කාලෙ වැඩ ඉද්දි නම් හැබැයි පින්වතුනේ බුදුරජාණන් වහන්සේ ශාස්තෘන් වහන්සේ තුළ තිබුනු ඒ අසිරිමත් ඥාණ මුල් කරගෙන දහම් දෙසුවානෙ. බුදුරජාණන් වහන්සේ ඒ කෙනාගේ ඉන්ද්‍රිය ධර්ම දකිනවා. ඒ ඉන්ද්‍රිය ධර්ම මෝරන්නේ කොයි විදියටද කියලා දකිනවා. එතකොට භාග්‍යවතුන් වහන්සේ ඉදුරන් මෝරන විදියේ දහම් කතාවක්ම කරනවා. වහා ධර්මය අවබෝධ කරනවා. වහා ධර්මය අවබෝධ කිරීමේ වාසනාව ලබනවා. ඊළඟට පරුෂ දමනය, පවේ තියෙන කර්කශ විපාක, බුදුරජාණන් වහන්සේ දේවදූත සූත්‍රය වදාළා. ඊළඟට ලක්ඛණසංයුත්තය, පේතවත්ථු, බාලපණ්ඩිත

සූත්‍රය, මේ වගේ දේශනා වල පාප කර්ම වල තියෙන කටුක, කර්කශ විපාක - දැන් එක් අවස්ථාවක බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ පව් කරපු තැනැත්තාගෙ පසුපස්සෙ ඒ පාපය පැමිණෙන විදිය. බුදුරජාණන් වහන්සේ වදාරනවා න අන්තලික්ඛෙ - අහසේ එබඳු තැනක් නෑ, න සමුද්ද මජ්ඡේ - මුහුද තැන් මැද එබඳු තැනක් නෑ, න පබ්බතානං විවරං පවිස්ස - පර්වතයක් ඇතුලට ගිහිල්ලා හැංගිලා බේරෙන්න එහෙම තැනක් නෑ, න විජ්ජති සෝ විගති ජගතිපදේසෝ - මේ ලෝකයේ එබඳු තැනක් ඇත්තේම නෑ. කොහොම තැනක්ද? යජ්පට්ත්තො මුඤ්චෙය්‍ය පාපකම්මං- යම් තැනක පිහිටලා තමන් කරපු පව් වලින් මිදෙන්න පුලුවන් නම්, එබඳු තැනක් මේ ලෝකයේ නැත. පව් වෙනුවෙන් කරන්න තියෙන එකම එක දේ තමයි කුසල් බලයෙන් ඒ පාපය දිරවා දමන එක. හොඳට පින් කරගන්න එක. ඒ ඇරෙන්න වෙන කිසිම එකක් නෑ. පව් කරා නං ඒක විඳවන්න සිද්ධ වෙනවාමයි. බුදුරජාණන් වහන්සේට ඔය ගාථාව දේශනා කරන්න පසුබිම යෙදුනේ භික්ෂූන් වහන්සේලා කණ්ඩායම් තුනක් නිසා. ඒ කාලෙ පින්වතුනි වස් ආවාසයෙන් පස්සෙ භික්ෂූන් වහන්සේලා බුදුරජාණන් වහන්සේ බැහැ දැක වන්දනා කරන්න පැමිණෙනවා. ඉතින් දුර ඈත වස්වසපු භික්ෂූන් වහන්සේලා කාණ්ඩ තුනක් තුන් පැත්තකින් බුදුරජාණන් වහන්සේ බැහැදකින්න සැවැත් නුවරට එනවා. එක භික්ෂූණ් වහන්සේලා පිරිසක් පැමිණෙද්දි ඔන්න මග ගමක මිනිස්සු මේ භික්ෂූන් වහන්සේලා දැකලා සතුටු වුනා, පැහැදිලා කිව්වා ස්වාමීනී අද දවල්ට අපේ ගමෙන් දානෙ වළඳලා යන්නම ඕන කිව්වා. අනේ අපි දානෙ සකස් කරනකං ඔබ වහන්සේලා වැඩ ඉන්න කියලා මේ පිදුරු ශාලාවක, පිදුරු සෙවිලි කරලා තියෙන ශාලාවක උන්වහන්සේලාට ආසන පැනෙව්වා. මිනිස්සු දානෙ හදනවා, මිනිස්සු දානෙ සකස් කරනකල් අර ස්වාමීන් වහන්සේලා එතන වාඩි වෙලා වැඩ හිටියා. මේ වැඩ ඉන්නකොට මේ ස්වාමීන් වහන්සේලාට පේනවා ඔන්න මනුස්සයො මොනවහරි තෙල් ආහාරයක් සකස් කරනවා. තෙල් ආහාරය සකස් කරද්දි එකපාර ගිනිදැල්ලක් ටිකක් වැඩිපුර උඩට ආවා. මේ වැඩිපුර උඩට ආපු ගිනිදැල්ල හුළඟේ ගහගෙන යන පිදුරු ගහක ඇවිලුනා. එතකොට ඒ හුළඟේ ගහගෙන ගිය පිදුරු ගහ දැන් ගිනි ඇවිලිලා මෙහෙම පාවෙලා යනවා. මේ පිදුරු ගහම කපුටෙක් ඇවිල්ලා තමන්ගේ හොටින් ඇල්ලුවා. අල්ලපු ගමන් කපුටාගේ පිහාටු වලට අර ගින්දර සම්පූර්ණයෙන් ඇවිලුනා, අහසේදිම ඒකා පිච්චිලා බිම වැටුනා. එතකොට ස්වාමීන් වහන්සේලා මේක හරි අසාමාන්‍ය සිද්ධියක්නෙ, ගිනිගත්ත පිදුරු ගහක් සාමාන්‍යයෙන් සතෙක් අල්ලන් නැනෙ. මේ කපුටා

මේක ඇල්ලුවානෙ. මේකා මේ අහක යන එකකට හොට දාන්න ගිහිල්ලා ඇවිලිලා වැටුනානෙ කියලා ස්වාමීන් වහන්සේලාට හරි ඒ කාරණය හිතට වැදුනා. ඔන්න ඒක මතක තියාගත්තා. ඔන්න ඒ ස්වාමීන් වහන්සේලාගේ සිදුවීම. තව ස්වාමීන් වහන්සේලා පිරිසක් ඔහොම වඩිනකොට මහාවැස්සකට අහුවුනා. ඒ වැස්සේ මේ ස්වාමීන් වහන්සේලාට අතේ මුකුත් තිබ්බෙ නෑ නොතෙමී ඉන්න. වටපිට බලනකොට දැක්කා ගුහාවක් තියෙනවා. මේ ස්වාමීන් වහන්සේලා දුවගෙන ගිහිල්ලා මේ ගුහාව ඇතුලේ නොතෙමී වාඩි වුනා. වැස්ස පායපුවාම අපිට යන්න පුලුවන්නේ කියලා. අනේ මේ වැස්සට පොඩි නායයෑමක් සිද්ධ වෙලා උඩින් ගලක් ඇවිල්ලා අර ගුහා දොර වැහුනා. ගුහා දොර වැහිලා ගමේ මිනිස්සුන්ට මේක ආරංචි වුනා, ගමේ මිනිස්සු ඇවිල්ලා ඉතින් නොයෙකුත් ආයුධ අරගෙන ඔට්ටුවෙලා ඔට්ටුවෙලා දවස් හතක් ගියා මේ ගල පෙරලන්න. දවස් හතක් අර ස්වාමීන් වහන්සේලාට පැන් පොදක් වත් නෑ, අර ගල් ගුහාව ඇතුලේ හිරවෙලා ඉන්නසිද්ධ වුනා. ඒක ඒ ස්වාමීන් වහන්සේලාගේ සිදුවීම. ඊටපස්සෙ තව ස්වාමීන් වහන්සේලා පිරිසකට සිද්ධියකට මුහුණ දෙන්න සිද්ධ වුනා. ඒ ස්වාමීන් වහන්සේලාට සැවැත්නුවරට එද්දි විශාල නදියක් - ඉන්දියාවේ ගංගා කිව්වහම පින්වතුනි ගොඩාක් පළලයි. මේ ගංගා හරහා නෞකා යනවා. ඒ පළල නදියක් තරණය කරන්න සිද්ධ වුනා, ඒක එන්න සිද්ධ වුනේ නැවකින්. නැවේ එනකොට කවදාවත් වෙච්චි නැති දෙයක් නැවට සිද්ධ වුනා. නැව මැදදි, නැව හිට්ටා. මේ නැව ක්‍රියාත්මක වෙන්නෑ, එන්ජිමක් තිබුනා, මේ එන්ජිම හිට්ටා. දැන් මොනවා කරලාවත් නැව ඉස්සරහට අරන් යන්න බෑ. නැව වැඩ කරන් නෑ. ඒ කාලෙ ඔහොම එකක් වුනාම ඒ ප්‍රදේශයේ මිනිස්සුන්ගේ මතයක් තියෙනවා කාලකණ්ණියෙක් හින්දා තමයි මෙහෙම වෙන්නෙ කියලා. ඉතින් මිනිස්සු බැලුවා මේ නැවේ එකත් එකටම කාලකණ්ණියෙක් ඇති. කවුද මේ කාලකණ්ණියා කියාල හොයන්න ඕන. නැවේ හිටපු ඔක්කොම රැස් කලා. රැස් කරලා දැන් කාලකණ්ණියා සෙවීම. කොහොමද හොයන්නෙ, තුණ්ඩු දැම්මා. තුණ්ඩු දාලා මේ තුණ්ඩු තේරුවා. තුණ්ඩු තෝරනකොට අහුවුනේ කාලකණ්ණියා විදියට, කාලකණ්ණි කාන්තාවක් විදියට අහුවුනේ කවුද, මේ නැවේ කප්පිත්තාගේ බිරිඳ. නැව අරගෙන යන කප්පිත්තාගේ බිරිඳ, අනේ හරීම අහිංසක පෙනුමක් තියෙන කෙනෙක්. ඇය අහුවුනාට පස්සෙ මිනිස්සුම කතා වුනා, නෑ නෑ මෑ නම් වෙන්න බෑ, ඕවා වරදින්නත් පුලුවන්නෙ, අපි ආයෙ පාරක් දාමු. තුන් පාරක් තුණ්ඩු දැම්මා. තුන් පාරම කප්පිත්තාගේ බිරිඳ අහුවෙනවා. එතකොට ඉතින් නැවේ කපිතාන් කිව්වා කරන්න දෙයක් නෑ, මේ මහා ජනකාය

වෙනුවෙන් මට මේක කරන්න සිද්ධවෙනවා. ඉතින් මැයව අල්ලලා දාමු කිව්වා නදියට. මැව නදියට දාන්න හැබැයි මට බලාගෙන ඉන්න බෑ මේ වතුරේ ගොඩාක් දුක් විඳලා මැරෙනවා මට බලන් ඉන්න බෑ, ඒ නිසා දාපු ගමන් ගිලෙන විදියට ඇගේ බර දෙයක් බැඳලා දාන්න කිව්වා. ඉතින් මිනිස්සු තිබුනු බර දෙයක් පොට්ටනියක් බැඳලා මේ කාන්තාවව දැම්මා. දාපු ගමන් ඉතින් මේ කාන්තාව කෑගහලා අඬලා අනේ මාව දාන්න එපා කියලා, ඉතින් උස්සලා දැම්මා. දාලා මේ කාන්තාව නැවෙන් ඉවත් වුනා විතරයි, නැව වැඩ කලානෙ. ඉතින් ඔහොම සිද්ධි තුනක් වුනා. ඔය සිද්ධි තුනම එකම දවසේ එකම මොහොතේ බුදුරජාණන් වහන්සේ සමීපයට ලැබුනේ. මේ භික්ෂූන් වහන්සේලා කාණ්ඩ තුනම එකම මෙහොතක භාග්‍යවතුන් වහන්සේ සමීපයට පැමිණුනා. බුදුරජාණන් වහන්සේ සමීපයට පැමිණිලා කියනවා ස්වාමීනී අපිට මෙහෙම සිද්ධියක් වුනා, බුදුරජාණන් වහන්සේ වදාළා මහණෙනි, ඔය කපුටා විදෙව්වේ ඒ කපුටාම කරගත්ත එකක්. ඈත අතීතයේ ගොවි මහතෙක් වෙලා ඉන්නකොට තමන්ගේ කම්මැලි හරකෙක් පණ පිටින්ම පිදුරු දාලා ගිනිතිබ්බා. මේ හරකා කිසිම කමකට නැති එකෙක් මං පාඩමක් උගන්වනවා කියලා පිදුරු වලින් වහලා කම්මැලි හරකාව ගිනි තිබ්බා. ඒ ගිනි තියලා හරකාව මැරූ පාප කර්මය තමන්ගේ පස්සෙන් එනවා, දුක් සහිත නිරයේ ඉපදිලා ඉපදිලා ගිනිදැල් වලින් පිච්චිලා යම් ජීවිතයක් ලබනවාද, ලබන ලබන ජීවිතයේ මැරෙන්නේ පිච්චිලාමයි. ජීවිතේ අහිමි වෙන්නේම පිච්චිලා. මහණෙනි ඔය කපුටා විදියට ඉපදිලා පිච්චුනේ අන්තිම වතාව නෙවෙයි කිව්වා, විදවනවා. අහසේ ඉගිල්ලිලා, අහසේ කිසිම තැනක නෑ කරගත්ත පවෙන් බේරෙන්න පුලුවන් හැකියාවක්. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මහණෙනි, ඔය නැවේ කපිතාන්ගේ බිරිඳ, ඇයත් ඒ කලින් කරගත්ත එකක් විදෙව්වෙ. ඇය පූර්ව ජාතියක තමන්ගේ හුරතලා, තමන්ගේ නිවසේ ඇතිදැඩි කරපු බල්ලාව ඒ බල්ලා කෙරෙහි කිපුණු හිතින් නදියේ ගිල්ලෙව්වා. ඔය විදියටම ඇගේ බරක් බැඳලා. ඒකෙ කර්ම විපාක ඒ. ඈ නිරයේ ගොඩාක් දුක් විඳලා යම් ජීවිතයක උපදිනවාද මේ මනුස්සයො අතරේ ඈ මැරෙන්නේම ඔය විදියට දියේ ගිලිලා. ආත්මභාව ගාණක් කිව්වා ඔය, ඕක අන්තිම එක නෙවෙයි. ඒක කවදා කෙළවර වෙනවාද කියලා කියන්න බැනෙ පින්වතුනේ. සාංසාරික ගමනක තියෙන භයානකකම. සාංසාරික ගමනක තියෙන භයානක කම, පාප කර්ම, සිත කය වචනයෙන් පව් කෙරුවොත් කොච්චර භයානකයිද. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා මහණෙනි ඔබ පිරිසට විඳවන්න සිද්ධ වුනේ ඔබලාම කරගත්ත එකක්. ඈත

අතීතයේ මේ භික්ෂූන් පිරිසම එක්තරා ගමක කොළු ගැටව් විදියට හිටියා. ඔක්කොමලා යාළුවො. ඒ යාළුවො ටික සෙල්ලම් කරද්දි එතනින් තලගොයෙක් ගියා. එයාලා මේ තලගොයා පස්සෙ පැන්නුවා තලගොයාට ගහලා මරන්න. එතකොට තලගොයා රිංගගත්තා ළඟ තිබුනු හුඹහකට. හුඹහට රිංගුවට පස්සෙ ළමයින් කතා වුනා හරි අපි එහෙනම් මේ තලගොයා දැන් ඇතුලට ගියානෙ. මේකට එළියට එන්න බැරිවෙන්න හිල් ටික වහමු. අර හුඹහේ තිබුනු හැම හිලක්ම ගල්කැට ආදිය හිරකරලා ළමයි ටික වැහුවා. වහලා ඔන්න මේ ළමයි ටික ගෙවල් වලට ගියා. ඊට සතියකට පස්සෙ තමයි මේ ගොල්ලො ආයෙ එතන සෙල්ලම් කරන්න ආවෙ. සෙල්ලම් කරන්න එනකොට මේ ළමයි දැක්කා තමන් වහලා ගියපු හුඹහ. මේ ළමයි ටික මේ හුඹහෙ සිදුරු ටික ඇරියා. සිදුරු අරිනකොට දවස් හතක් නිරාහාරව අරක ඇතුලේ හිරවෙලා හෙම්බත් වෙලා හිටපු තලගොයා බොහෝම අමාරුවෙන් එළියට ඇදුනා. උගේ ඒ තිබුනු දුක්බර ගතිය හින්දා මේ ළමයින්ට දුක හිතුනා, අනේ මරන්න ඕන නෑ ඔහේ ගියපුදෙන්. අතෑරියා. ඒ හින්දා අර ගල්ගුහාවේ හිරවෙලා මැරුන් නෑ. බුදුරජාණන් වහනසේ වදාළා මහණෙනි ඔබත් ඒ හේතුවෙන් බොහෝ දුක් වින්දා නිරයේ. උපදින හැම ජීවිතයකම වගේ ඔබත් කටුක කර්කශ විපාක වින්දා කියනවා ඔය විදියට දවස් හතක් කොහේ හරි නිරාහාරව භීතියෙන් හිරවෙලා ඉන්න සිද්ධ වුනා කිව්වා. එතකොට බලන්න කොච්චර භයානකයිද කියලා පාපකර්ම කරන එක. ඒකෙ විපාක පස්සෙන් එන හැටි. කොහෙවත් හැංගිලා බේරෙන්න බෑනෙ. අහසේ තැනක් නෑ, පොළොවේත් තැනක් නෑ, කන්දක් ඇතුලෙ ගුහාවකත් තැනක් නෑ, මේ ලොකේ එහෙම තැනක් නෑ, පාපකර්ම සිද්ධවුනොත් බේරෙන්න. අන්න ඒ නිසා පව් කිරීම ගැන, පවේ කටුක විපාක ගැන භය ඇති කරගැනීමත් දමනයක්. බුදුරජාණන් වහන්සේ ඔය විදියට කාරණය විස්තර කලාම කේසී අහනවා ස්වාමීනී දැන් මෘදු විදියට දමනය වෙන්නැති කෙනාව පරුෂ විදියට දමනය කරනවා. පරුෂ විදියටත් දමනය වෙන්නැත්නම් මෘදු විදියත් පරුෂ විදියත් පාවිච්චි කරනවා. එතකොට ස්වාමීනී ඔය මෘදු පරුෂ කියන දෙකම පාවිච්චි කරනකොට හැමෝම දමනය වෙනවාද. බුදුරජාණන් වහන්සේ වදාලා නෑ කේසී ඇතැම්හු එහෙම දමනය වෙන්නෙත් නෑ. ඉතින් භාග්‍යවතුන් වහන්ස එහෙමත් දමනය වෙන්නැත්නම් ඔබවහන්සේ මොකක්ද කරන්නෙ. බුදුරජාණන් වහන්සේ වදාළා කේසී එහෙම ඇයන්ව මං මරලා දානවා. එතකොට කේසී කියනවා ස්වාමීනී ශාස්තෘන් වහන්සේ ප්‍රාණඝාතයෙන් වැළකීම ගැන වදාරන කෙනෙක්නෙ. බුදුරජාණන් වහන්සේට ප්‍රාණඝාතය කැපද? බුදුරජාණන්

වහන්සේ වදාළා නෑ කේසී, මේ ශාසනයේ මරණය කියලා කියන්නෙ ඒක නෙවෙයි. බුදුරජාණන් වහන්සේත් අනිත් නුවණැති භික්ෂූනුත් ඒ දමනය වෙන්නැති කෙනාට අවවාද අනුශාසනා නවත්වනවා. අවවාද අනුශාසනා කරන් නෑ, දහම් අවවාද දෙන් නෑ. එයාගේ දියුණුව පිණිස එයාට යමක් ලැබෙන්නැතිව යනවා. එතකොට කේසී කියනවා, මේ කාරණය අහගෙන හිටපු කේසී කියනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස එකත් එකටම සත්‍යය වශයෙන්ම මේ ශාසනය ශාස්තෲන් වහන්සේගේ දහම් අවවාද ලැබෙන් නැත්නම්, අනෙක් ගුණගරුක සංඝයාගෙන් දහම් අවවාද ලැබෙන් නැත්නම් ජීවත් වුනත් ඒක මරණයක්මයි. ජීවත් වුනත් ඒක මරණයක්මයි මේ ධර්මය නැත්නම්, එහෙනම් දැන් තේරුම් ගන්න ඕන අපි බුදුරජාණන් වහන්සේගේ ධර්මය ලැබීම තමයි අපේ ජීවිතේ. ධර්මය නොලැබී තිබ්බා නම් පින්වතුනේ අපි මේ මනුස්ස ලෝකෙ මොනවා කර කර හිටියත් අපි මළකඳන්. ධර්මය හින්දා තමයි ජීවිතයක් තියෙන්නෙ. දහම් අවවාද නොලැබෙන ජීවිත ජීවත් වුනද මළකඳන් වැනිය. මේ ලෝකයේ බොහෝ මළකඳන් අතරේ අපිට ජීවත් වෙන්න පුලුවන් වුනා, බුදුරජාණන් වහන්සේගේ ධර්මය නිසා. බුදුරජාණන් වහන්සේගේ ධර්මය නිසා. ඉතින් එහෙම තමයි ශාස්තෲන් වහන්සේගේ දමනය කිරීම. දන්තිකා කියන භික්ෂුණිය දමනය වුනේ ඇයම දැකපු නිමිත්ත මුල් කරගෙන. ඇය දැක්කේ කැලෑ සතෙක් දමනය වෙලා ඉන්නවා කීකරු, යටහත් පහත් සේවකයෙක් වගේ. ඈ කල්පනා කලා එහෙනම් මටත් බුදුරජුන්ගේ ධර්මය තුළින් මාව දමනය කරගන්න පුලුවන්. ඇය වීර්යය කලා, වීර්යයෙන් ධර්මයේ හැසිරුණා. ඇත්තෙන්ම ඇය ඇයවම දමනය කරගත්තා. දමනය කරගෙන ඒ උත්තමාවිය මෙන්න මේ විදියට ගාථා වදාළා. මං දහවල් කාලයේ ගිජුකුළු පර්වතයේ ගත කරලා නික්මිලා යනකොට ගඟෙන් ගොඩට ආපු ඇතෙක් ගංතීරයේ ඉන්නවා දැක්කා. හෙණ්ඩුවක් අතට ගත්ත මිනිහෙක් ඒ ඇතාට කිව්වා පය දික් කරන්න කියලා. ඇතා කකුල දික් කලා. අර මිනිහා එතනින් තමයි ඇතාගේ ඇඟ උඩට නැගගත්තේ. ඉතින් මේ සිද්ධි අපි ඕනතරම් දැකලා තියෙනවා, ඔහොම තමයි ඒ ඇතුන් එක්ක ඒ ඇයො කටයුතු කරන්නෙ. මේ ඇතා ඉස්සර දමනය වෙච්චි එකෙක් නොවෙයි. මිනිස්සු තමයි ඇතාව දමනය කරලා ගත්තෙ. ඉතින් මං බලාගෙන හිටියා මිනිස්සුන් විසින් දමනය කරපු ඒ ඇතා දිහා. ඒක මං හිතට ගත්තා. මාත් වනාන්තරයට ගිහිල්ලා සිත දමනය කරලා සමාධිමත් කරගත්තා. ඇයත් වනාන්තරය ඇතුලට ගිහිල්ලා අර සැඩ ඇතෙක්ව දමනය කරනවා වගේ හිත දමනය කරගත්තා. සැඩ ඇතෙක්ව දමනය කරන්නා සේ හිත දමනය කරන්න නම් හිත දමනය කරනා

ශිල්පය තිබිය යුත්තේය. හිත දමනය කරනා ශිල්පය නම් කුමක්ද, ඒ වනාහි බුදුරජාණන් වහන්සේගේ ධර්මයයි. බුදුරජාණන් වහන්සේගේ ධර්මය විනා මේ සසරට බර හිත දමනය කරගන්න වෙන ක්‍රමයක් නම් මේ ලොව නැත්තේය. ඒ නිසා හොඳට ඒ ගැන තේරුමක් ඇති කරගන්න ඕන අපි. අපිට පින්වතුනේ මේ ලැබුනේ, මේ මනුස්ස ජීවිතේ ලැබුනේ එහෙම එකක්. අපිට අපිව දමනය කරන්න අවස්ථාවක්, දමනය කරගන්න මාවතට එළඹෙන්න අවස්ථාවක් අපිට මේ උදාවෙලා තියෙන්නෙ. දමනය වෙන්න මහන්සි වෙද්දි එක එක්කෙනාට එක එක විදියට දමනය වෙන්න අවකාශ ලැබේවි. ඒ කෙනාගේ ඥාණයේ ප්‍රමාණයට අනුව. බුදුරජාණන් වහන්සේගේ ධර්මයනේ දමනය වීම පිණිස තියෙන විෂය. මේ විෂයේ, මේ ධර්මයේ විශේෂ ගුණ හයක් තියෙනවා. ඒ ගුණ හය අතරේ අවසාන ගුණය, අවසාන දහම් ගුණය තමයි පච්චත්තංවේදිතබ්බො විඤ්ඤූහීති, මේ ධර්මය ඒ ඒ කෙනාගේ නුවණේ ප්‍රමාණයට ප්‍රතිඵල ලබාදෙන්නේය. එතකොට ඒ ඒ කෙනාගේ නුවණේ ප්‍රමාණයට අනුව තමයි ධර්මයේ ප්‍රතිඵල. ඒ නිසා විශ්වාසයෙන් යුතුව ධර්මය දියුණු කරන්න මහන්සි ගන්නකොට නුවණ මෝරද්දි මෝරද්දි මෝරද්දි ධර්මය තුළ ලබන්න තියෙන සියලු ප්‍රතිඵල අනුක්‍රමිකව ලැබෙනවා. ගොඩාක් නුවණ තිබුනු අය රහතන් වහන්සේලා බවට පත්වුනා, වහා අර්හත්වය පසක් කරගෙන. ඊට වඩා ටිකක් නුවණ මද අය අනාගාමී ඵලය සාක්ෂාත් කලා. ඊටත් වඩා ටිකක් නුවණ මද අය සකදාගාමී ඵලය සාක්ෂාත් කලා. ඊටත් වඩා නුවණ මද අය සෝතාපන්න වුනා. ඊටත් වඩා නුවණ මද වුනත් ඒ අය ධර්මයට මහා ගෞරවයකින් වාසය කරලා සුගතියේ රැකවරණ, සත්පුරුෂ ඇසුරේම ලබන රැකවරණ මේවා හදාගත්තා. ධර්මය කෙරෙහි හිත පහන් කරගෙන, ඉතින් නුවණ කියන එක අන්තිමේටම අඩු පිරිසට මේ ධර්මය ගැන හිත පහදින්නේවත් නැත. ඉතින් හොඳට කාරණය තේරුම් අරගන්න. තේරුම් අරගෙන බුදුරජාණන් වහන්සේගේ ධර්මය මුණගැහිච්ච් මේ ජීවිතේ පින්වතුනි හොඳට ධර්මය ගැන හිත පහන් කරගන්න. පහන් කරගෙන මේ අර්හත් උත්තමාවියන්ගේ චරිතාපදාන, යළි යළිත් සිහි කරමින් අපි අපේ ජීවිතයට අධිෂ්ඨානයක් ඇති කරගනිමු මේ දන්තිකා අර්හත් තෙරණිය ඇතුලු ඒ උතුම් රහත් තෙරණිවරු, ඒ වගේම ගෞතම ශාසනයේ නිවනේ සැනසුනු රහතන් වහන්සේලා පින් පුරාගෙන සසර ගමනේ පැමිණිලා ධර්මයේ හැසිරිලා අමා නිවනේ සැනසුනා. ඉතින් අපිටත් හොඳට පින් පුරාගන්න අවකාශ ලැබෙත්වා. හොඳට ගුණ දහම් දියුණු කරගන්න අපිට

අවකාශ ලැබෙත්වා. දහම තුළ ජීවිතය දමනය කරගන්න අවකාශ ලැබෙත්වා අපිටත් ගෞතම ශාසනයේ අමා නිවසේ සැනසෙන්න ලැබේවා. සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අනුමෝදන් කරමු අපි සියලු දෙවිවරුන්ට, සක්දෙවිඳුන්, සතර වරම් දෙවිවරුන් ප්‍රධාන, සියලු දෙවියෝ සතුටු සිතින් පින් අනුමෝදන් වෙලා දෙවියෝ දිව්‍ය සැපයෙන් වැඩේවා, ඒ දෙවියෝ අපි හැමදෙනාටම සියලු ආරක්ෂාව, ආශිර්වාදය, උපකාරය නොඅඩුවම සලසා දෙත්වා. සක්දෙවිඳුන්, සතර වරම් දෙවිවරුන්, සෙන්පති දෙවිවරුන්, ශ්‍රීමත් සුමන සමන් දෙවිරජ ප්‍රධාන ලංකාභූමිය සුරකින සියලු දෙවිවරුන් අපගේ ඉෂ්ටකාමී හිතකාමී සියලු දෙවිවරුන් ගෞතම ශාසනය තුළ ධර්මාවබෝධයෙන් සැනසෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයෝ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන්ව පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් නිරෝගී සුව ලබත්වා, දීර්ඝායුෂ ලබත්වා, ගෞතම ශාසනය තුළ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන් අවබෝධ කරගන්න වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අද ධර්ම දානමය පින්කම සිදු කරන බදුල්ල පළාත් මහරෝහලේ සේවයේ නියුතු පින්වත් වෛද්‍ය ඒ.ඩී. බුද්ධික ජීවන්ත මහතාගෙන් සහ ඩබ්ලිව්.ජේ.එම්. උදයංගනී මහත්මියගේ නමින් මියපරලොව යන්න යෙදුනු ඩබ්ලිව්.එම්. ජයරත්න පියාණන්ට, යූ.බී. රන්හාමි සීයාට සහ ලීලාවතී අත්තම්මාට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. නමින් මිය ගියාවූ සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන්ව අපගේ ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා. මේ දුක්ඛිත සංසාර ගමනෙන් ඥාතීන් නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදනාව සිදු කරන්න. රැස් කල සියලූම පුණ්‍ය ධර්මයෝ ආර්.එස්. පින්නපොල ගුරු පියාණන්ට අනුමෝදන් වෙත්වා. බොහෝ දෙනෙකුගේ ජීවිත වලට සත්පුරුෂ ඇසුර, කළ්‍යාණමිත්‍ර ඇසුර සමීප කරවපු ඒ ආර්.එස්. පින්නපොල ගුරුපියාණන්ට පින් අනුමෝදන් වෙලා නිදුක් නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සැලසේවා, ගෞතම ශාසනය තුළ ධර්මාවබෝධ කරන්නට වාසනාව ලැබෙත්වා කියලා අපි පින් අනුමෝදන් කරමු. සුජීවත්ව සිටින පින්වත් ආර්.ආර්. මානෙල් පොඩිමැණිකේ මැණියන්ට, එච්.ඩබ්ලිව්. නන්දාවතී මැණියන්ට, එච්.පී. ගුණසේන පියාණන්ට චතුරංග, සුභාෂිණී, සුමේධා, නුවන්, දුතිකා යන සහෝදර සහෝදරියන්ට පවුලේ දූදරුවන්ට, ඥාති හිතමිත්‍රාදී සෑම සියලු දෙනාට පින් අනුමෝදන් වෙලා නිදුක් නිරෝගී සුව සැලසේවා, ජීවිත වලට

නිරන්තර උතුම් කල්‍යාණමිත්‍ර ඇසුර ලැබේවා, ධර්මාවාබෝධය පිණිස මේ පින් හේතු වේවා කියලා අපි පින් අනුමෝදනාව සිදු කරනවා. දැනට අසනීප තත්වයෙන් පසුවෙන සමාධි නිසංසලා යෙහෙළියටත්, ඇයගේ දෙමව්පියන්ටත් ඉතා ඉක්මණින්ම නිදුක් නිරෝගී සුව සම්පත්තිය ලැබෙත්වා කියලා අපි පින් අනුමෝදනාව සිදු කරමු. පින්වත් එච්.බී. බුද්ධික ජීවන්ත මහතාටත්, ඩබ්ලිව්.ජේ.එම්. උදයංගනී මහත්මියටත් දහම් ප්‍රභාෂ්වර පුතණුවන්ටත්, පවුලේ සෑම සියලු දෙනාටත් මේ සියලුම පින් අනුමෝදන් වෙත්වා. විශේෂයෙන් බදුල්ල මහරෝහලේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට මේ සියලු පුණ්‍ය ධර්මයෝ එක ලෙසම අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. ධර්ම දානය සිදු කල ඒ සුපින්වත් හැමදෙනාටත් ඔබ සෑම සියලු දෙනාටත් ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත් ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ සෑම සියලු දෙනාටත් පින් අනුමෝදන් වෙලා, සැමට සියලු යහපත අභිවෘද්ධිය උදාවේවා. පින්වතුන්ලා කරන කියන රැකී රක්ෂා ආදී කටයුතු ඒ දූදරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදිය සර්වප්‍රකාරයෙන්ම සාර්ථක කරගෙන සුවසේ ජීවිත ගතකරන්න, ඒ වගේම කායික සැපයෙන්, මානසික සැපයෙන් යුතුව සුවසේ ජීවිත ගතකරන්න ඒ හැමදෙනාට වාසනාව ලැබෙත්වා. සුව සේ පින් පුරාගෙන දහම් මග දියුණු කරගෙන චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න හැමදෙනාට වාසනාව ලැබෙත්වා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=n0MZjzGSAko

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදු සාදු සාදු!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද දවසේ මේ දේශනාවට දායකත්වයන් දරමින් ධර්ම දානමය පින්කම සිදු කරන්නෙ පින්වත් ශාමික බාලසිංහ පුතණුවන්, මැණියන්, කණිෂ්කා දියණිය සහ ඩිලාන් පුතනුවන් විසින් විශේෂයෙන් ජූනි මස 13 වන දින උපන්දිනය යෙදෙන විජේකුමාර බාලසිංහ අප්පච්චීටත්, ජූනි 12 උපන්දිනය යෙදුනු ලොකුඅප්පච්චීටත් නිදුක් නිරෝගී සුව සැලසේවා කියන ඒ උතුම් ප්‍රාර්ථනාවෙන් සෙත් පැතීම අරමුණු කරගෙනයි අද මේ ධර්මදානමය පින්කම ඒ පින්වතුන්ලා විසින් සිද්ධ කරන්නෙ. ඒ අමා නිවන් දුටු රහත් තෙරණිවරු, මේ දේශනා මාලාවේදී අපි ඉගෙන ගන්නෙ අමා නිවනේ සැනසෙච්චි ඒ උතුම් අර්හත් උත්තමාවියන්ගේ චරිතාපදාන. ඒ උත්තමාවියන්ට නිවන් සුවය කැඳවන, එහෙම නැත්නම් ධර්මයේ හැසිරීමේ අවකාශය සලසන අවස්ථාව එළඹිච්චි හැටි විවිධයි. විවිධ කරුණු කාරණා මුල් කරගෙන බුදුරජාණන් වහන්සේගේ ධර්මය කෙරෙහි පින් තියෙන අයට හිත පැහැදී ගියා. ධර්මයට හිත පහදිනවා කියන කාරණාව ගත්තහම පින්වතුනේ බොහෝ දෙනෙකුට සාමාන්‍යය සමාජෙ ගත්තහම බොහෝ දෙනෙකුට ධර්මයකට අවධානය යොමු වෙන්නෙ ජීවිතයට දුක් කරදර ආපුවාම. ජීවිතයට කරදර එනකොට ඒ ප්‍රශ්න අභියෝග ඉස්සරහ තමයි ගොඩාක් දෙනෙකුට ධර්මය මතක් වෙන්නෙ. සාමාන්‍යයෙන් ජීවිත වල බොහොමයක් එහෙමනෙ තියෙන්නෙ පින්වතුනි. හොඳට ඉන්න කාලෙ ධර්මය කියන එක මතක නෑ. ඒ ගැන වගේ වගක් නෑ. ජීවිතේට ප්‍රශ්නයක් ආපුවාම තමයි මතක් වෙන්නෙ ධර්මයක් තියෙනවා කියලා හරි. බහුතරයක් ජීවිත විහාරස්ථානයකට, පන්සලකට ගොඩ වැදෙන්නේ පවා ප්‍රශ්නයක් ඉස්සරහා විතරනෙ. බෝධිපූජාවක් තියන්න, සෑයක් වන්දනා කරන්න ඒවා ඔක්කොම මතක් වෙන්නෙ ප්‍රශ්නයක් ආපුවාම සාමාන්‍යයෙන් ගත්තොත්. ඒකට හේතුව මොකක්ද, ජීවිතයට දුකක් කරදරයක් ආපුවාම තමයි මනුස්සයාට මේ කාමයෙන් වැඩක් නෑ කියලා තේරෙන්නෙ. නැත්නම් කාලා ඉන්නවා, රූපවාහිනී බලනවා, විනෝදෙන් ඉන්නවා, හිනහාවෙවී ඉන්නවා, ප්‍රශ්න ආවට පස්සෙ තමයි තේරෙන්නෙ අපිට මේවගෙන් හැබෑ සැනසිල්ලක් නෑ කියලා. ඔන්න ඊටපස්සෙ ඉතින් බණ ටිකක් අහන්න ඕන, බෝධිපූජාවක් තියන්න ඕන කියලා ඒවාට යොමුවෙනවා. සාමාන්‍යයෙන් ඒකනෙ ස්වභාවය. දේශනාවෙත් තියෙනවා දුක්කූපනිසා ශ්‍රද්ධා, පැහැදීම ඇතිවෙන්න ආසන්නම කාරණය බවට

පත්වෙනවා දුක තේරීම. දුක කරණකොටගෙන, දුක නිධාන කරගෙන ප්‍රසාදය හටගන්නවා. ඉතින් අද ඉගෙන ගන්න සිදුවීම අන්න ඒ වගේ සිදුවීමක්. උබ්බේරිය තෙරණියගේ චරිතාපදානය. උබ්බේරිය කියන අර්හත් උත්තමාවියගේ චරිතාපදානය. උබ්බේරිය කියලා කියන්නෙ පින්වතුනේ මීට කල්ප ලක්ෂයකට ඉහත පදුමුත්තර බුද්ධ ශාසනයේ පින් පුරපු කෙනෙක්. ඒක සිද්ධ වුනේ මෙහෙම ඒ කාලයේ, පදුමුත්තර අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළ වෙලා ධර්මය දේශනා කරමින් වැඩම කරන කාලෙ, ඇය එක්තරා නිවසක වාසය කලා, ඇය ඒ කාලෙත් ස්ත්‍රියක්. දවසක් ඈ තරුණ වයසේ ඇගේ දෙමාපියො දහවල් කාලයේ ගමනක් ගියා, ටිකක් දුරබැහැර. ඒ දුරබැහැර ගමන යනකොට මේ දුවව නවත්තලා ගියා නිවසේ. එතකොට දුව විතරයි දැන් තනියම නිවසේ ඉන්නෙ. ඒ දුව තනියම නිවසේ ඉන්නකොට ඇය දකිනවා දහවල් කාලයේ එක භික්ෂූන් වහන්සේ නමක් පිණ්ඩපාතෙ වඩිනවා. ඒ භික්ෂූන් වහන්සේ පිණ්ඩපාතෙ වඩින්නෙ ක්ලාන්ත වූ ස්වභාවයකින්. මේ දහවල් කාලයේ උන්වහන්සේට හොඳටම කලන්තෙ වගේ, හරී අපහසුවෙන් උන්වහන්සේ පිණ්ඩපාතෙ වඩිනවා. එහෙම නැත්නම් මේ පාරෙ වැඩම කරනවා. ඈ දැක්කෙ භික්ෂුවක් පාරෙ වඩින හැටි. ඒ භික්ෂුව කලන්තෙ වෙලා තමයි හිටියෙ, සාමාන්‍යයෙන් හොයාගන්න පුලුවන්නෙ බාහිරින් බලපුවාම, ක්ලාන්ත ස්වභාවය. ඇයට හරී දුකක් හිතුනා උන්වහන්සේගේ වෙහෙස ගැන. ඈ කල්පනා කලා මේ ස්වාමීන් වහන්සේට විඩා හරින්න විදියක් මං සපයලා දෙන්න ඕන. ඈ තමන්ගේ නිවසේ ඉස්සරහා සිහිල් සෙවන ඇති තැනක ආසනයක් පැනෙව්වා. බලන්න තරුණ වයසේ බුද්ධිමත් දියණියක්. ඈ තනිපංගලමේ නිවසේ හිටපු නිසා ඈ සූදානම් වුනේ නෑ, නැත්නම් ඈ කල්පනා කලේ නෑ ඒ ස්වාමීන් වහන්සේ නිවස ඇතුලට වඩම්මගන්න, මොකද එහෙම අවස්ථාවක් වුනා නම් ඈ උපස්ථානයට සැරසුනාට ඒ ස්වාමීන් වහන්සේ වැඩම කරන් නෑ. තනිපංගලමේ ස්ත්‍රියක් ඉන්න නිවසකට භික්ෂුවක් වැඩම කරන් නෑ. ඇයට ඒ ගැන කල්පනාවක් තිබුනා. ඒ නිසා ඇය එළියේ රුක් සෙවනක පුටුවක් තියලා හොඳට ආසනයක් සූදානම් කලා. ආසනය සූදානම් කරලා ඒ ස්වාමීන් වහන්සේ ළඟට ගිහිල්ලා කිව්වා ආරාධනා කලා අනේ ස්වාමීනී ඔබ වහන්සේ හරි අපහසුවෙන් ඉන්න බව මට පේනවා. ස්වාමීනී පොඩ්ඩක් සිහිල් රුක් සෙවණේ වැඩ ඉඳලා පැන් ටිකක් වළඳලා සුවපත් වෙලා වඩින්න. අනේ එතකොට ඒ භික්ෂුව ඇත්තටම අපහසුවෙන් හිටියේ, ඒ නිසා ඒ භික්ෂුව අනුකම්පාවෙන් වැඩම කලා. වැඩම කරලා ඒ දුව හදලා දීපු විදියට ඒ රුක්

සෙවණේ වාඩිවෙලා හිටියා ටික වේලාවක්. ඇය පැන් ටිකක් පූජා කලා. ඇ උපස්ථාන කලා. මේ උපස්ථාන ලබලා උන්වහන්සේ වැඩම කලා. ඇගේ ජීවිතයට ඒ කරපු උපස්ථානයෙන් විශාල පිනක් ඒකරාශී වුනා. පින එකතු වෙනවා කියන එක ජීවිතයට තියෙන ලොකුම රැකවරණය. ජීවිතයට පින් එකතු වෙනවා කියන්නෙ පින්වතුනේ අපි මේ ජීවිතයට තියෙන රැකවරණය එයයි. ඒක අපි හොඳට මතක තියාගත යුතු එකක්. ජීවිතයේ එකතු කරන ඒවා අතරේ ගොඩාක් වටින්නෙ පින එකතු කරගන්න එක කියන එක. ඒ කාරණය හොඳට හිතට දාගන්න ඕන එකක්. අපේ ජීවිතේට වඩාත් වටින්නේ පින එකතු කරගැනීමයි. ඇය පින එකතු කලා එදා. බලන්න ඒ එකතු කරපු පින ඇට උදව් කරන හැටි. මීට කල්ප ලක්ෂයකට පෙර ඔය විදියට පින් පුරාගත්තු ඇය ඒ පිනේ අනුහසින් දෙවියන් අතරේ උපදිනවා. දෙවියන් අතරේ උපන්නාට පස්සෙ ඒ දෙව්ලොව දී ඇ ලබනවා සත්පුරුෂ ආශ්‍රය. දෙව්ලොව සත්පුරුෂ දෙවිවරු, යහපත කැමැති දෙවිවරු, හිත කැමැති දෙවිවරු ඇට ඇසුරු කරන්න ලැබෙනවා. ඇතැම් දෙවියෝ හරි ධර්මධරයි, බණ කතා කියලා දෙනවා. ඇය ඒ ධර්මය ඉගෙන ගන්නවා. මෙහෙම ඇ තමන්ගේ ජීවිතය ධර්මයට යොමු කරගත්තා. සත්පුරුෂයාගේ ආශ්‍රයට යොමුකරගත්තා. ඒ ධර්මයට යොමු කරගැනීම, සත්පුරුෂයාගේ ආශ්‍රයට යොමු කරගැනීම ඇගේ ජීවිතය සම්පූර්ණයෙන්ම සැපය පැත්තට හරවනවා. මනුස්ස ලෝකෙක උපදිනවා කියලා කියන්නෙ සත්පුරුෂ ඇසුර හදාගන්න තැනක්. දෙව්ලොවක යනවා කියලා කියන්නෙ සත්පුරුෂ ඇසුර හදාගන්න තැනක්. ඒ සඳහා හොඳට අවකාශ තියෙන තැන. ඒ තැනදී පින්වතුනි වහවහා කරගත යුතු දේ එයයි. දැන් මේ මනුස්ස ලෝකෙට ආපු අයගෙන් කීයෙන් කීදෙනාටද අවකාශ ලැබිලා තියෙන්නෙ හරියට සත්පුරුෂ ඇසුර හඳුනගන්න. හැබැයි සත්පුරුෂ ඇසුරට එන්න අවකාශයක් මේ මනුස්ස ලෝකෙ තියෙනවා. ඔය වගේමයි දෙව්ලොවත්. ඒ විදියමයි දෙව්ලොවත්. ඔය දෙව්ලොවදී දිව්‍ය සැප අතරින් සත්පුරුෂ ඇසුර ලබන්න අවකාශ තිබේ. ඒ ඇ ඒ දිව්‍යලෝකෙට ගියපු නිසා ඇට පුලුවන්කමක් ලැබුනා සත්පුරුෂ ඇසුර හදාගන්න. ඇය ඒ සත්පුරුෂ ඇසුරේ පිහිටලා හොඳට පින් පුරනවා. ඒ පින් පුරාගෙන ඇවිල්ලා ඉතින් පිනෙන් පෝෂණය වෙච්ච ජීවිතයක් ඇතිව තමයි ඇය මේ බුද්ධ කාලයේ උපන්නෙ සැවැත් නුවර. අපේ ගෞතම අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකෙ පහළ වෙනකාලෙ ඇය සැවැත් නුවර ධනවත් පවුලක උපදිනවා ඇයගේ නම උබ්බෙරී. මේ උබ්බෙරී කියලා කියන්නෙ තරුණ වයසට එනකොට පුදුම මනස්කාන්ත රූප සෝභා තිබුනු ස්ත්‍රියක්. ඒ

මනස්කාන්ත රූ සපුව නිසා රජ්ජුරුවො මැව දැකලා පැහැදුනා. කවුද රජා? පසේනදී කෝසල මහාරජ්ජුරුවො. ඒ දැකලා පැහැදුනාට පස්සෙ රජ්ජුරුවො කල්පනා කලා මැයව තමන්ගේ අන්ත:පුරයට කැඳවාගන්න. රජ්ජුරුවො තරුණ වයසෙ, මැව අන්ත:පුරයට කැඳවාගෙන අන්ත:පුරයේ අගබිසව් තනතුරේ පිහිටෙව්වා. ඒ පිහිටවලා ඇයත් එක්ක එකට වාසය කරනකොට රජු නිසා ඇය ගැබ් ගත්තා. සුදුසු කාලයේ ඇවෑමෙන් ඇය මෙලොවට බිහි කලා දියණියක්. ඒ දියණියට රජ්ජුරුවොත්, මේ බිසවත් නම් තැබුවා ජීවා. දැන් ජීවා කියන්නෙ බොහොම මල් කැකුළක් වගේ සුන්දර දුවක් මැයට ඉන්නවා. මෑ ඒ දූත් එක්කම සතුටු වෙනවා. දූ පොඩ්ඩ වඩාගෙන, දූ පොඩ්ඩට නොයෙක් කතන්දර කියා දිදී මේ අම්මා සතුටින් ඉන්නවා. සාමාන්‍යයෙන් දරු පැටියෙක් අලුතින් උපන්නාම ඒ අම්මලා සන්තෝෂ වෙන හැටි පින්වතුන් දැකලා ඇතිනෙ. චූටි දරු පැටව් ඉන්න අම්මලා, ඒ දරුපැටවුන්ට හැමතිස්සේම එක එක කතන්දර කියා දිදී ඒ අම්මලා ඒ දරු පැටවු එක්කම නේද ඉන්නෙ. අන්න ඒ වගේ මේ උබ්බේරිය කියන බිසවත්. තමන්ගේ ලෝකය අර දරුපැටියා බවට පත්කරගත්තා. සාමාන්‍ය කාන්තාවන්ගේ ස්වභාවය ඒක. මේ ලෝකෙ ස්ත්‍රියක් ලබන ස්ත්‍රී ජීවිතයක් තියෙන කෙනෙක් ලබන උතුම් දෙයක්නේ මාතෘ පදවිය, අම්මා කෙනෙක් වීම. ස්ත්‍රී ජීවිතය ඇතුලේ තියෙන උත්තරීතර දෙයක්, අම්මා කෙනෙක් බවට පත්වෙන එක. ඒ අම්මා බවට පත්වෙන ඒ කාන්තාව තමන්ගේ දරු පැටව් තමන්ගේ ජීවිතය කරගන්නවා. කලාතුරකින් කාන්තාවො එහෙම නොවෙනවා. නමුත් බහුතරයක් අම්මලා තමන්ගේ දරු පැටව්, තමන්ගේ ජීවිතය බවට පත්කරගන්නවා. උබ්බෙරිය කියලා කියන්නෙ අන්න එහෙම අම්මා කෙනෙක්. අම්මා කෙනෙකුගේ දරුවන් කෙරෙහි තියෙන සෙනෙහස මේ ශරීරය විනිවිද විනිවිද ගිහිල්ලා ඇටමිදුළු ඇතුලේ තැන්පත් වෙලා තියෙනවා කියලානෙ දේශනාවෙ කියන්නෙ. ඒ සෙනෙහස ඒ තරම් .. මේ මල්කැකුළක් වගේ හුරුබුහුටි ජීවා කියන දූ පොඩ්ඩ ගැන අර උබ්බේරිය කියන අම්මාටත් ඒ වගේ සෙනෙහසක් තිබුනා. නමුත් පින්වතුනේ ලෝක ස්වභාවය අචින්තේ තම්පී භවතේ, නොසිතූ දේ වන්නේය, චින්තී තම්පේ විනස්සති, හිතාගෙන පතාගෙන ඉන්න පිළිවෙල වෙනස් වී යන්නේය. මේක තමයි ලෝක ස්වභාවය. අපිට තියෙනවා හීන ලෝකයක්. අපි ලස්සන ප්‍රාර්ථනා ඇතිව ඉන්නවා. අපිට තියෙනවා ලස්සන ඉලක්ක. ඒවා අපි බලා ඉද්දි විනාශ වෙලා යනවා. එයයි ලෝකයේ ස්වභාවය. අපි නොහිතපු, අපි නොපැතූ අපි කිසිසේත් අපේක්ෂා නොකළ ඒවා අපේ ජීවිතේට කඩා වැටෙනවා. මෙහෙම වුනා මේ තරුණ අම්මට.

තමන්ගේ ලෝකය සරසාපු මල් කැකුළක් වාගේ ජීවා දුව ඉතාම කුඩා වයසේදී කාලක්‍රියා කලා. ඒ කාලක්‍රියා කරනකොට මේ අම්මට මේක උහුලගන්න බෑ. මේ අම්මාට විශ්වාස කරන්න අමාරුයි, තමන්ගේ ලෝකය සරසාපු තමන්ගේ දූ පොඞ්ඩ කොහොමද තමන්ව අමතක වෙලා එහෙම යන්න ගියෙ. සාමාන්‍යයෙන් චූටි වයසේ දරු පැටව් මිය යනවා කියන එක උහුලගන්න අමාරුම ගණයේ දුකක්. කිසිසේත් අපෙක්ෂා කරන් නැනෙ. මේ අම්මට තමන්ගේ චූටි දරුපැටියා නැතිව ගියපු එක වාවගන්න බැරිව ගියා. එක දිගට අඬනවා. රජ සැප පවා ඇයට එපාවුනා. ඇය දැන් වැඩිපුර ඉන්නෙ රාජමන්දිරයේ නෙවෙයි. උහුලාගන්න බැරි දුකකින් තමන්ගේ දූගේ මෘත ශරීරය දවපු තැනට ඇවිල්ලා ඒ සොහොනේ ඉඳගෙන ඈ අඬනවා. එක දිගට ඈ දවස් හතක් මේ සෙහොන් භූමියට ඇවිල්ලා අඬන්න පටන් ගත්තා. කෑගගහා අඬනවා, අනේ මගේ දුව ජීවා, ඇයි මාව දාලා ගියේ, ඇයි ඔයා ඔයාගේ අම්මව දාලා ගියේ කියලා දැන් මෙන්න අඬනවා මෙතන. මේ අඬනකොට ඇගේ හැඬුම දැකලා භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මෙතනට වැඩම කලානෙ. ඒ මහා කාරුණික බුදුරජාණන් වහන්සේගේ මහා කාරුණික නේත්‍රයට හසුවෙන්න තරම් පින් බලයක් ඇට තිබුනා. බුදුරජාණන් වහන්සේ මහා කරුණා නෙතින් ලෝකය දෙස බලනකොට ඒ සම්බුදුරජුන්ගේ නේත්‍රයට පින් තියෙන අය හමුවෙනවා. ධර්මාවබෝධයක් පිණිස ඉන්ද්‍රිය ධර්මයෝ සපුරා තියෙන අය බුදුරජාණන් වහන්සේගේ මහා කරුණා නේත්‍රයට හසුවෙනවා. එතකොට බුදුරජාණන් වහන්සේ ඒ අයට පිහිටක් වීම පිණිස වැඩම කරනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ එහි වැඩම කලා, ඇය හඬමින් ඉන්න සොහොනට ශාස්තෘන් වහන්සේ වඩිනවා, තවත් භික්ෂූන් වහන්සේලා පිරිසක් එක්ක සොහොනට වැඩම කරලා බුදුරජාණන් වහන්සේ ඇගෙන් මෙහෙම ඇහුවා. භාග්‍යවතුන් වහන්සේ වදාළා උබ්බේරී, දැන් ඔයා හඬ හඬා ඉන්නවා, මේ වනයට ඇවිදින්. මගේ දුවේ ජීවා, මගේ දුවේ ජීවා කිය කියා ඔයා අඬනවා. දැන් උබ්බෙරී ඔය කාවෙනුවෙන්ද ඔය අඬන්නෙ, මගේ දුව ජීවා, මගේ දුව ජීවා කියලා මේ කාවෙනුවන්ද ඇඬුම? කිව්වා ස්වාමීනී ඈ මේ ජීවිතේ මට හිටපු එකම දුවණිය. මගේ කුසින් මං වැදූ දරුපැටියා. ඒ දුව වෙනුවෙන් මං අඬන්නෙ. ඒ මගේ දුව වෙනුවෙන් මං අඬන්නෙ, ඇගේ නම ජීවා කිව්වා. කිව්වා උබ්බේරී ජීවා නමින් මේ සොහොනේ මෙතනම ඔබ අඬන තැනම අසූහාරදහසක් දෙනා දවා තිබෙනවා. ඒ අසූහාරදාහෙන් කොයි ජීවා වෙනුවෙන්ද ඔබ අඬන්නෙ? අනේ ස්වාමීනි, මේ ජීවිතේ මගේ නම උබ්බෙරී, මගේ දුව ජීවා. එතකොට භාග්‍යවතුන්

වහන්සේ වදාළා උබ්බේරි, අනිත් ජීවාලා හැමෝගෙම අම්මා වුනෙත් උබ්බෙරීම තමයි. අනිත් මෙතන අසූහාරදාහක් ජීවාලා දැව්වා. ඒ ජීවලා හැම කෙනාගේම අම්මා වුනෙත් උබ්බෙරී කියලා කෙනෙක්. මේ උබ්බෙරී වෙන කවුරුත් නෙවෙයි, ඔබමයි. පුදුමයි පින්වතුනි මේ සසර. සංසාර ගමනේ බලන්න එකම කතන්දරේ එකම ස්වරූපයෙන් කොයිතරම් නම් වතාවක් වෙනවා ඇත්ද. ඒ තුන්ලෝකාග්‍ර වූ අතීතය ගැන කෙළවරක් නැතිව බැලිය හැකි ඥාණය ඇති, අනන්තඥාණී වූ බුදුරජාණන් වහන්සේ වදාළා ඇරෙන්න මේවා කොහේ හොයන්නද. සංසාර ගමනේ එකම කතන්දරය, එකම සිදුවීම, එකම හීල්ලීම ආයෙ ආයෙ ආයෙමත් ලැබෙනවා කියන එක. බලන්න මේක සසර. මේ සංසාර ගමනේ ඒ උබ්බෙරී බිසව උබ්බෙරී කියන නමින්ම ඉපදිලා ජීවා කියන දරුවෙකුත් ලබලා, ඒ ජීවා කියන දරුවා අකාලයේ මැරිලා, අකාලයේ මැරිච්චි දරුවා වෙනුවෙන් එකම සොහොනේ අසූහාරදහස් වතාවක් අඬලා, අපිත් කොච්චර අඬලා ඇත්ද. සසර කියන්නෙ නම් බිහිසුණු එකක්. මෙබඳු සංසාර ගමනින් නම් නිදහස් වීමමයි වටින්නෙ. ඇයි පින්වතුනි මේ ජීවිතේ අපිට කරදර කඩාපාත්වෙනකොට අපිට හිතෙනවා ඇයි මේවා අපිටම වෙන්නෙ? මේවා අපිම විඳවන්න ඕනද. සමහර වෙලාවට ඒ කරදරේම ලක්ෂ කෝටි වාරයක් විඳවලා. ඒ ඇඬුමම ලක්ෂ කෝටි වාරයක් ඒ විදියටම අඬලා. ඒ සුසුම් හෙලීම් ලක්ෂ කෝටි වාරයක් හෙළලා. හැබැයි අපි දන්නෑ, අපිට මේ ජීවිතේ ලැබෙන දුක් ගින්න අලුත් එකක්. අපිට හිතෙනවා දැන් තියෙන්නෙ, අපිට මතක නෑ පරණ ඒවා. උබ්බෙරී බිසවට සංවේගයක් හටගත්තා. අහෝ, එහෙම සංසාරෙකද මං මේ ආවෙ. මගේ දුව වෙනුවෙන්ම, මේ ජීවා කියන මගේ දුව වෙනුවෙන්ම මං අසූහාරදහස් වතාවක්ම අඬලද, ඇයි මගේ දුවේ මාව දාලා ගියේ කියලා කිය කිය මං මෙහෙම වැළපිලාද. එතකොට අසූහාරදහස් වතාවක්ම මගේ දුව මේ විදියට මාව හඬව හඬවා මගෙන් වෙන් වෙලා ගිහිල්ලාද. මේ ප්‍රිය අය ආදරේ කරන අය මේ අය වෙන් වෙලා යෑමේ දුකින් කවදා ගැලවෙන්නද. ඈට සිහිය උපන්නා. සත්‍යවාදී වූ බුදුරජාණන් වහන්සේ සත්‍ය වූ ධර්මය දේශනා කරනකොට ඇයට සැක හිතුන් නෑ, ඇයට ඒ ගැන කිසීම කුකුසක් උපන්නෙ නෑ, ඇයට හිත පැහැදුනා. දැන් මේක පින. මේක තමයි අර පිනෙන් කරන මහා උපකාරය. සත්පුරුෂ ඇසුරක කාලයක් තිස්සෙ පින් පුරපු එක ඔන්න ඔය විදියට උදව් වුනා. සත්පුරුෂයන් වහන්සේ හමුවෙනකොට සත්පුරුෂයන් වහන්සේගේ සත්පුරුෂ ධර්මයට ඇගේ හිත පහදිනවා. ඉතින් ඇය මේ විදියට කරුණු කාරණා පහදාගත්තට පස්සෙ ඇයට හරි සංවේගයක් ඇතිවුනා. ඒ සංවේගයෙන් මේ ථෙරීගාථාවෙන්

කියනවා මෙහෙම. අබ්බහී වතමෙ සල්ලං බුද්ධසං හදයෙනිස්සිතං යං මේ සෝක පරිතාය දීතසෝකං ව්‍යාපානොදී, එතකොට මගේ හදවතේ වේදනා ගෙනත් දීපු කාටවත් නොපෙනෙන දරු දුක නම් ශෝක හුලක් තිබුනාද, ඒ ශෝක හුල ඉවත් කරගත්තා. බුදුරජාණන් වහන්සේ ඒක වචනෙ වදාරනකොට ඒ එක අර්ථයෙන් ඇගේ හිතේ ඇනිලා තිබුනු අර ශෝක හුල මං මේ කාවෙනුවෙන්ද මේ අඬන්නෙ, මේ අඬලා පලක් නෑ නොවේද කියලා ඈට ශෝක හුල ඉවත් වුනා. ශෝක හුල කියන එක ඇනෙන්නෙ පින්වතුනේ කොහෙද. ශෝක හුල කියන එක ඇනෙන්නෙ හිතේ. සාමාන්‍යයෙන් බාහිර ඇඟේ ඇනෙන හුල් නම් පේනවා. හැබැයි ශෝක හුල කියන එක නම් ඇනෙන්නෙ අපිට නොපෙනෙන, අපිට අදෘශ්‍ය, තියෙන්නෙ කොහේද කියලා හිතාගන්නවත් බැරි හිතේ. හිත කියන එකවත් අපිට පේන් නැත්නම් හිතේ ඇනෙන හුල් කොහේ පේන්නද. හැබැයි හිත නොපෙනුනාට, හිත කියන එක කොහේ තියෙනවාද කියලා අපි දන්නේ නැතිවුනාට අපිට මේ හිතේ බර දැනිලා නැද්ද? හිතේ බර කියන එක අපි හැමෝටම දැනිලා තියෙනවා. හිත කියන්නෙ මෙච්චර බර එකක්ද කියලා දැනෙන්නෙ හිතට වේදනාවක් ආවම. හිතට වේදනාවක් ආවම, හිතේ වේදනාව, ඒ බර උහුලගන්න බැරිව අපි කොච්චර විඳවනවාද. මේ කයේ බර නම් උහුලගෙන ඉදියි අපි ඕනතරම්. හැබැයි හිතේ බර, හිතේ බර හරි අමාරුයි. හිතට වේදනාවක් දුක් කරදරයක් එන්න ඕන හිත කියන්නෙ මෙච්චර බර දෙයක් කියලා තේරෙන්න. ඊළඟට හිත පසාරු කරගෙන හුලක් ඇනෙන්න ඕන හිත කියන්නෙ මෙච්චර රිදුම් දෙන එකක් කියලා තේරුම් ගන්න. බොහෝ දෙනෙකුට එහෙම අවස්ථාවක වත් ඒක හරියට තේරුම් ගන්න දක්ෂකමක් නෑ, ජීවිතයට දුකක් කරදරයක් පීඩාවක් ආවට පස්සෙ ධර්මය පස්සෙ හඹාගෙන යන බොහෝ දෙනෙකුට වෙන්නෙ ඔන්න ජීවිතේට ප්‍රශ්නය ආවම ස්වාමීන් වහන්සේලා ඇසුරු කරනවා, බණ අහනවා, පින්දහම් කරන්න පටන් ගන්නවා, ටික දවසක් යනකොට ප්‍රශ්නය ඉවර වෙනවානෙ. ප්‍රශ්නය ඉවර වුනාම අර ඇසුරත් ඉවරයි. ආයෙ ඊටපස්සෙ ස්වාමීන් වහන්සේ නමක් ඇසුරු කිරීමක් ගැන කතාවල්, බණක් ඇසීමක් ගැන කතාවල්, සෑය බෝධියක් වැඳීමක් ගැන කතාවල්, එව්වා නෑ. අර සංවේගය, අර හිතේ බර තියෙන කල් හරි. ඒක නැතිවෙලා ගියපු ගමන් ආයෙ පිස්සුවට වැටෙනවා. සාමාන්‍ය ජීවිතය ගත්තොත් එහෙමයි. හැබැයි මේ උබ්බෙරී බිසව හටගත්ත සංවේගයෙන් යුක්තව බුදුරජාණන් වහන්සේ වදාරන දේට හිත යොමු කලා. භාග්‍යවතුන් වහන්සේ ඒ උබ්බෙරී බිසවට දහම් දේශනා කලා ශෝක හුල ගැලවීම යන

විදියට. ශෝක හුල ගැලවීමේ පරියාය කියලා කියන්නෙ පින්වතුනේ, සම්බුද්ධ ශාසනයේ තියෙන පරියායක්. ඒක බුදු සසුනෙන් පරිබාහිරව නැත. මේ හිතේ ඇනෙන කෙලෙස් හුල් උදුරා දමන මහා ශල්‍යවෛද්‍යවරයාණන් වන අප ශාස්තෘවර බුදුරජාණන් වහන්සේ විසිනුයි ඒ ශෝක හුල් උදුරන පරියාය ලෝකයට දේශනා කලේ. කුමක්ද පින්වතුනේ ශෝක හුල් උදුරන පරියාය. ශෝක හුල් ගැලවී යන්නේ කෙසේද. අවබෝධයෙන්. ශෝක හුල් ගැලවී යන්නේ ලබන අවබෝධය නිසා. ඒ කවර නම් අවබෝධයක්ද, ජරා ධම්මං මාජීරතී ති, වයසට යන දේවල් වයසට යන්න එපා කියන කාරණය. මේ ලෝකයේ දෙවියෙකුටවත්, බ්‍රහ්මයෙකුටවත්, මාරයෙකුටවත්, ශ්‍රමණ බ්‍රාහ්මණයෙකුටවත් කිසි කෙනෙකුට ලබන්න බෑ, ආන්න අවබෝධය. මේ ලෝකයේ තියෙනවා වයසට යන දේවල්. වයසට යෑම උරුම කරගෙන, ඒ වයසට යෑම උරුම කරගත්ත දේ වයසට යන්න එපා කියන කාරණය මේ තුන්ලෝකෙ කාටවත් ලබන්න බෑ. වයසට යනදේ වයසට යනවාමයි. අන්න ඒකට කියනවා ජීවිතේ කියලා තියෙන අවබෝධය. ශෝක හුල් කියන එක ඉදිරී යන්නෙ ඒ අවබෝධය කියන එක ආවොත්. අපි මේ ජීවිතේ පින්වතුනි යම්තාක් පිරිසට ආදරය කරනවාද, අපි යම්තාක් පිරිසකට සෙනෙහසින් බැඳෙනවාද, ඒ හැමදේම වයසට යෑම උරුම කරගත්ත දේවල්. අපි අපේ ජීවිතයට බැඳෙනවා, අපි බාහිරට බැඳෙනවා. අපේ ජීවිතෙත් නාකි වෙනවා, බාහිරත් නාකි වෙනවා. ඒ නාකි වෙනකොට නාකි වෙන්න එපා කියන එක කොහොම නම් ලබන්නද. හැබැයි හිත ඇතුලේ තියෙනවා නාකි නොවෙනවා නම් කියලා. ඒ නාකි නොවෙනවා නම් කියන හිතුවිල්ලත් එක්ක, ඒ අනවබෝධයත් එක්ක තමයි ශෝක හුල කියන එක බද්ධ වෙන්නෙ. අනවබෝධය යම් තාක් තියෙනවාද, ඒ තාක් ශෝක හුල ගැඹුරට ඇනී තිබේ. අනවබෝධය තියෙන තැනට අවබෝධය කියන එක ආපු විට ශෝක හුල ඉදිරී යන්නේය. එතකොට ජීවිතේ ගැන අපිට වැටහීමක් අපි ඇතිකරගන්න ඕන වයසට යන දේ වයසට යනවාමයි, ඒක මේ තමන්ට විතරක් උරුම එකක් නෙවෙයි. මේ ලෝකයේ උපදින, මේ ලෝකයේ ජීවත් වෙන හැමකෙනාටම උරුමයි. වයසට යන දේ වයසට යනවා කියන කාරණය. ඊළඟ දේ තමයි ව්‍යාධි ධම්මං මා ව්‍යාධිතී අලබ්බනීයංඨානං, ලෙඩ දුකට පත්වෙන දේ ලෙඩ නොවේවා කියන කරුණ ලැබිය නොහැකි දෙයකි, ඒ අවබෝධය. ලෙඩවීම කියන එක යමක් උරුම කරගෙන තියෙනවා නම් ලෙඩවීම උරුම කරගත්ත දේ ලෙඩවෙන්න එපා කියන එක අපි කාටවත් ලබන්න පුලුවන් කමක් නෑ. ලෙඩවීමට අයිති දේවල් පින්වතුනි ලෙඩ වෙනවාමයි. ලෙඩවී

යනවාමයි. ලෙඩවීම උරුම කරගත්තු දේ කියලා කියන්නෙ මොකක්ද? ලෙඩවීම උරුම කරගෙන තියෙනවා තමා යයි සළකන මේ ජීවිතය. ලෙඩවීම උරුම කරගෙන තියෙනවා තමන් ආදරය කරන අය කියලා සළකන ජීවිතත්. ජීවා කියන දුව, උබ්බේරිය කියන බිසවගේ ජීවා නම් වූ ආදරණීය දුව, ඇයත් උරුම කරගෙන හිටියා ලෙඩවීමේ ස්වභාවය. ඉතා සිඟිති වයසේදී ඇය ලෙඩවීමට ගොදුරු වුනා. ඒ උබ්බේරිය කියන අම්මා පතන්න ඇති. අනේ මගේ දූ පොඩ්ඩ තව තවත් ලෙඩවෙන්න නම් එපා. මගේ දූ පොඩ්ඩ ඉක්මණින් සුවපත්වේවා, පතන්න ඇති. හැබැයි එය අලබ්බනීයට්ඨානං, මේ ලෝකයේ නොලැබිය හැකි දෙයකි. ලෙඩ වෙන දේ ලෙඩ වෙනවාමයි. ඒ ලෙඩ වෙන දේ ලෙඩ වෙනකොට පින්වතුනේ ඒක ඉස්සරහා අඬලා වැළපිලා ශෝක හුල් ඇනගෙන වේදනා විඳ විඳ ඉන්න ජීවිතෙන් අපි ගැලවෙන්නට ඕන නම් අපිට එකතු කරගන්න තියෙන්නෙ අවබෝධය. ලෙඩවීමට අයිති දේවල් ලෙඩවෙනවාමයි කියන අවබෝධය. මරණ ධම්මං මාමීයතීති අලබ්බනීයට්ඨානං, මරණයට අයිති දේවල් මරණයට පත්වෙන දේවල් මැරෙන්න එපා කියන දේ මේ ලොවේ නොලැබිය හැකි දෙයකි. මේ ලෝකයේ දෙවියෙකුට ලබන්නත් බෑ, බ්‍රහ්මයාට ලබන්නත් බෑ, මාරයෙකුට ලබන්නත් බෑ, ශ්‍රමණ බ්‍රාහ්මණයෙකුට ලබන්නත් බෑ, කේනචිවා ලෝකස්මිං, ලෝකයේ කිසිකෙනෙකුට ලබන්න බෑ මරණය කියන එක එද්දි නොමැරෙත්වා කියන කාරණය. හැමදෙනාම මරණය කියන එක උරුම කරගෙන ඉන්නවා. අපි ආසයි අපේ දරු පැටව් අපිත් එක්ක හැමදාම ඉන්නවා නම්. නමුත් දරුවො කියලා කියන්නෙ මරණය උරුම කරගත්ත අය. අපි ආසයි අපි ආදරය කරන අය හැමදාම අපි එක්ක ඉන්නවානම්. නමුත් ආදරය කරන අය කියලා කියන්නෙ මරණය උරුම කරගත්ත අය. අපි ආසයි අපේ ජීවිතයට සතුට ගේන අය. අපේ ජීවිතයට සැනසුම ගේන අය හැමදාම අපි ළඟින් ඉන්නවා නම්. හැබැයි ඒ අපේ ජීවිතේට සතුට ගේන හැම කෙනෙක්ම, මරණය උරුම කරගත්ත අය. ඒ අයගේ ජීවිතයට මරණය පැමිණෙනකොට අපි කොහොම ලබන්නද මැරෙන්න එපා කියලා, ඒක අපේ ප්‍රාර්ථනාවක්. ඒක මේ හිත් ඇතුලේ තියෙන පැතුමක් මිසක් පින්වතුනේ එය නොවෙයි යථාර්තය. අපි අපිටම ආදරෙයි. අපි අපේ ජීවිතේ වැඩිපුරම ඇළුම් කරන්නේ අපිටමයි. හැබැයි යම් දවසක් එනවා අපිට අපිවත් අහිමි වෙන. මරණය ඉදිරියේ අපට අපවද අහිමි වී යන්නේය. ඒ නිසා මේ ජීවිත කතන්දරය ගැන ජීවිතේ කියන එක ගැන මේ මේ විදිහේ වැටහීමක් තියෙනවා නම් ඒ වැටහීම තියෙන තැන ශෝක හුල රැඳෙන් නෑ. ඒ වැටහීම නැති තැන ශෝක හුල කියන එකෙන් නිදහස් වීමකුත් නෑ. මේ

සමාජය දිහා බලපුවාම අපිට පේනවානෙ පින්වතුනේ වැඩීපුර තියෙන්නෙ ශෝක කිරීම, වැළපීම, හීල්ලීම, සුසුම් හෙළීම, ජීවිතේ කරදර අභියෝග එන හැමවතාවකම මනුස්සයා එතෙන්ට එළඹෙනවා. ඇයි හේතුව? මනුස්සයාට මේ අවබෝධය නෑ. අපිට අඩුගානෙ වාසනාවක් මේ ජීවිතේ ස්වභාවය මෙයයි කියලා සත්‍යය අහන්න හරි ලැබුනා. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා ඊළඟ වැටහීම කුමක්ද තිබිය යුත්තේ, කය ධම්මං මාකීයතීති අලබ්බනීයට්ඨානං, ගෙවී යන ස්වභාවයට අයිති දේවල් කයධම්ම, ගෙවී යන ස්වභාවයට අයිති දේවල් ගෙවෙන්න එපා කියන කාරණය අලබ්බනීයංඨානං, ලබන්න බැරි දෙයක්. ගෙවී යන ස්වභාවය කියලා මෙතන කියන්නෙ මොකක්ද පින්වතුනේ. ගෙවෙන්නේ මොනවාද. ගෙවී යන්නේ ආයුෂයයි. කාලෙ ගෙවී ගෙවී යනවා, කාලය ගතවෙන්න එපා කියලා ලබන්න බෑ. ගෙවෙනවාමයි. උදෑසනින් ඉර පායනවා, ඒ පායන හිරු අනිත් පැත්තෙන් බැහැලා යන්නෙ කාලය අවසන් කරගෙන. එහෙම යනකොට අනේ කාලය ගෙවෙන්න එපා කියලා අපිට ලබන්න පුලුවන්කමක් නෑ. අවුරුද්දෙන් අවුරුද්ද පහුවෙවී යනවා. අවුරුද්දෙන් අවුරුද්ද පහුවෙවී අපි මෝරනවා. එක නවත්වන්න බෑ. නවත්වන්න පුලුවන්කමක් නෑ, අපිට අවුරුදු හැට හැත්තෑව වෙනවා. ඒ හැත්තෑව වෙනකොට අනේ ඒ හැත්තෑව ලබපු කෙනාට හැත්තෑ එක වෙන්න එපා කියලා ලබන්න නම් බෑ, වයසට යනවාමයි. ආයුෂ ගෙවී යනවාමයි. කෙසේ නම් ලබන්නද. දිව්‍ය ලෝකයේ දෙවිවරු උපදිනවා දීර්ඝායුෂ. හැබැයි ආයුෂ දීර්ඝ වුනත් ඒ ආයුෂයත් ගෙවෙනවා. නවත්වන්න බෑ, බ්‍රහ්මලෝකයේ බ්‍රහ්මයො උපදිනවා දීර්ඝායුෂ, ගෙවීයනවා. ඒ ආයුෂය නවත්වන්න බෑ, මේ ලෝකයේ යමක් වේගයෙන්ම ගතවී යනවාද එය වයසයි. මේ ලෝකයේ වේගයෙන්ම ගතවෙවී යන්නෙ ආයුෂය. ඊට වඩා වේගවත් දෙයක් නෑ, ඉක්මණට අහිමි වෙවී යන්නේ පින්වතුනි ඉන්න තියෙන කාලය. ආයුෂය. බුදුරජාණන් වහන්සේ එක් අවස්ථාවක වදාරනවා මහණෙනි, එක රජ කෙනෙකුට හිටියා දක්ෂ දුනුවායො හතරදෙනෙක්. ඒ දුනුවායො හතර දෙනාම කැඳවලා මේ රජ්ජුරුවො දුනුවායන්ට අණකලා එම්බල දුනුවායෙනි, නුඹලා දැන් මෙතන ඉඳලා සිව්දිශාවට හැරෙන්න ඕන. හැරිලා දුනුදිය වැරෙන් ඇදගන්න ඕන. එතකොට මේ දුනුවායො ටික රජ්ජුරුවො කියපු විදියටම කලා. දැන් රජ්ජුරුවො කියනවා, උඹලාට මං සංඥාවක් දෙනවා, සංඥාව දීපු සැණින් උඹලා වැරෙන් ඇදගත්තු දුනුදිය අත්හැරලා ඈතට ඊතල මුදාහරින්න ඕන. දක්ෂ දුනුවායො උපරිම වැරෙන් දුනුදිය ඇදලා එකම සංඥාවකදී එක මොහොතින් ඊතලයට අහසට

මුදාහැරියා. දැන් මේ ඊතලය ඈතට යනවා. මේ ඊතල හතර යන්නෙ සිව් දිශාවට. එකක් යනවා උතුරට, එකක් යනවා දකුණට, එකක් යනවා බටහිරට, එකක් යනවා නැගෙනහිරට. බුදුරජාණන් වහන්සේ වදාරනවා මහණෙනි, ඔතන හිටියා එක දක්ෂ පුරුෂයෙක්. ඔය පුරුෂයා දුවගෙන ගිහිල්ලා අර ඈතට යන ඊතල හතර වැටෙන්න නොදී අල්ලගෙන ආවා කියනවා. බුදුරජාණන් වහන්සේ අහනවා මහණෙනි, ඈතට ඇදෙන ඊතල හතර සිව්දිශාවට යන ඊතල හතර වැටෙන්න නොදී අල්ලාගත්ත පුරුෂයාගේ වේගය ගැන ඔබට මොකක්ද හිතෙන්නෙ? ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, ඊතල හතරක් අල්ලන්න ඕන. එකම එක ඊතලයක් අල්ලනවා නම් යම් මනුස්සයෙක් එපමණකින් ඔහු දක්ෂයාය. ඊතල හතරක් ඇල්ලීම එහි දක්ෂකම ගැන ස්වාමීනී කවර කතාද. බුදුරජාණන් වහන්සේ වදාරනවා මහණෙනි, ඊතල හතරම අල්ලන ඒ ජවය ඇති පුරුෂයාගේ යම් වේගයක් තියෙනවාද, ඒ වේගයට වඩා වේගයෙන් මේ ලෝකයේ ඉරහඳ දෙක ගමන් කරනවා. ඉර හඳ දෙකට වඩා වේගයෙන් මහණෙනි, ඉරට හඳට අධිගෘහිත දෙවිවරු ගමන් කරනවා. ඉරට හඳට අධිගෘහිත දෙවිවරුන්ටත් වඩා වේගයෙන් මහණෙනි, උපන්න සත්වයාගේ ආයුෂය ගෙවී ගෙවී ගෙවී ගෙවී අවසන්වෙනවා. වේගයෙන් ආයුෂය ගෙවී ගෙවී යනකොට පින්වතුනේ, ඒ ගෙවෙන ආයුෂය එක මොහොතකට එක නිමේෂයකට අනේ ගෙවෙන්න එපා කියලා නවත්වන්න බෑ. නැවැත්වීමේ හැකියාව නැත. අන්න ඒකට කියනවා අලබ්බනීයංඨානං, කිසි කෙනෙකුට නවත්වන්න බෑ. අපි කොච්චර ආදරේ කලත්, අපි කොච්චර ප්‍රිය වශයෙන් බැඳිලා හිටියත් අපි හැමදෙනාගේ ආයුෂ ගෙවී ගෙවී අපි අවසානයේ මරණය කරා යනවා, නවත්වන්න බෑ. නස්සනධම්මං මං නස්සතීති අලබ්බනීයංඨානං, නැසී වැනසී යන දේවල් නැසෙන්න එපා වැනසෙන්න එපා කියන කාරණය අලබ්බනීයඨානං, නොලැබිය හැකි දෙයක්. මේ ලෝකයේ ශ්‍රමණයෙකුට ලබන්නත් බෑ, බ්‍රාහ්මණයෙකුට ලබන්නත් බෑ, දෙවියෙකුට ලබන්නත් බෑ, මාරයෙකුට ලබන්නත් බෑ. ලෝකෙ කිසි කෙනෙකුට ලබන්න බැහැ මේ නැසිලා යන දේවල් නැසෙන්න එපා කියන කාරණය. නැසීමට අයිති දේවල් ඔක්කොම නැසිලා යනවා. අනිත්‍ය දේවල් හැමදේම අනිත්‍ය වෙලා යනවාමයි. ඉතින් මේ කාරණය අවබෝධ නොවීම තමයි ශෝක හුල තියෙන්න හේතුව. ඔය කාරණා කෙනෙකුට අවබෝධ වෙනවා නම්, වැටහෙනවා නම්, තේරෙනවා නම් එතන ශෝක හුල් නැත. එදා භාග්‍යවතුන් වහන්සේ උබ්බේරියට ඔය ශෝක හුල් උදුරන ධර්මය දේශනා කලා. ඒ ධර්මය දේශනා කරනකොට ඇගේ හිත හරීයට

පැහැදුනා. ඒ ප්‍රසාදයෙන් ඈ කරුණු වටහාගෙනම අවබෝධයෙන් පැවිදි වුනා. පැවිදි වෙලා ඉතාම නොබෝ කාලයකින් සියලු කෙලෙස් නසලා ඇය අර්හත්වයට පත්වෙලා ඒ අර්හත් උත්තමාවිය බොහෝ දුරට මේ ගාථාවන් වදාරන්න ඇත්තෙ, ඒ උත්තමාවිය පිරිනිවෙනා මොහොතේ. මෙන්න මේ විදියේ ලස්සන ගාථාවක්. උබ්බෙරීය කියන රහත් තෙරණිය මේ ගාථාව වදාළා. සාජ්ජ අබ්බුල්හ සල්ලාහං නිච්ඡා තා පරිනිබ්බුතා බුද්ධං ධම්මං ච සංඝං ච උපේමි සරණ මුත්තමං, අද මං ඉන්නෙ ඒ ශෝක හුල උදුරලා දාලා. තෘෂ්ණාව නැති කරලා දාලා නිවිලා ගිහින්. බුදු සමිඳුන්වත්, සද්ධර්මයත්, ආර්ය සඟරුවනත් මං සරණ කරගත්තා. ඈ සරණ කරගත්තේ කුමක්ද, උතුම් තිසරණයයි. තිසරණය ගැන තිසරණයේ සරණ ගැන මේ තිසරණය ලොවට දායාද කලා වූ මහා කාරුණික ශාස්තෘන් වහන්සේ වදාළේ මෙසේය. ඒතං කො සරණං කේමං - මේ තිසරණය වනාහි ලෝකයේ ඇති ක්ෂේම වූ සරණ ය. ක්ෂේම කියලා කියන්නෙ පින්වතුනි බිය රහිත තැන. ක්ෂේම කියලා කියන්නෙ බිය රහිත කියන එක. ඉතා බිහිසුණු බියකරු කාන්තාරයක් මැද ආරක්ෂාව පිණිස යම්තැනක් තියෙනවාද, ඒකට කියනවා ක්ෂේම භූමිය. සංසාරය කියන්නේ බිහිසුණු කතරක් නම් ඒ බිහිසුණු කතරේ ඇති එකම ක්ෂේම භූමිය බුදුරජුන්ගේ සරණය. ධර්මයේ සරණය. සඟරුවනේ සරණය. අන් කිසිවක් නැත. මේ සසරේ ක්ෂේම භූමි ගොඩක් නෑ. සසරේ තියෙන ක්ෂේම භූමිය තිසරණය. වෙන කිසිවක් නෑ, මේ ක්ෂේම භූමිය මේ ලෝකයේ තියෙන තිසරණය කියන ක්ෂේම භූමිය ඉතාම අතලොස්සක් කෙනෙකුට තමන්ගේ ජීවිතයේ ආරක්ෂාව විදියට හදාගන්න අවස්ථාව ලැබෙනවා. ඒතං සරණ මුත්තමං, තෙරුවන් සරණ යනු මේ ලෝකයේ උතුම්ම සරණය. ඒතං සරණ මාධම්ම සබ්බ දුක්ඛා පමුච්ඡතී, මේ තෙරුවන් සරණ තුලට පැමිණිලා තමයි සියලු දුක් ගැහැට වලින් නිදහස් වෙන්න තියෙන්නෙ. ඉපදීම නිසා යම්තාක් දුක්ගිනි විඳිනවාද, ඒ සියලු දුක් ගිනි වලින් නිදහස් වෙන්න තියෙන්නෙ තිසරණය තුළට පැමිණිලා. ඉපදීම හේතු කොටගෙන වයසට යන්නේය. ලෙඩදුක් උරුම වන්නේය. නොයෙක් කරදර කම්කටොළු වලට මැදිවන්නේය. ශෝක වැළපීම් දුක් දොම්නස් සුසුම් උරුම කරගන්නට සිදුවන්නේය. ආදරය කරන ප්‍රියමනාප අය වෙන්වී යන්නේය. අප්‍රිය අමනාප කරුණු කාරණා වලට මුහුණ දීමට සිදු වන්නේය. තමන් කැමතියි බොහොම සන්තෝෂයෙන් සැපසේ සුවසේ වාසය කරන්න. එසේ කොච්චර කැමැති වුනත් නොලැබෙන්නේය. හැමදේම අවසානෙ මරණය උරුම කරගන්නේය. ඒ සියල්ල දුකය. මේ දුකින් නිදහස් වෙන්න නම් මේ දුකට

සරණක් සළසා ගන්න නම් ඒ එකම එක සරණ තෙරුවන් සරණයි. සංසාර ගමනේ එනකොට කර්ම දෝෂ නිසා සිත කය වචනයෙන් චේතනා පහළ කරලා කරන ඒවා නිසා අපිට අර්බුද හැදෙනවා. මේ අර්බුද සංසාර ගමන පුරාවට අපිට දුකක් විදියට පස්සෙන් එනවා. ඇතැම් අයට ප්‍රශ්න තියෙනවා කර්ම දෝෂ. විසඳුම් නෑ. පීඩාවට පත්වෙනවා. ඒත් තමන්ම රැස් කරගත්ත කර්මයෙන් ගුටි කකා ඉන්න ඕන. මේවගෙන් කවදාද නිදහස් වෙන්නෙ. තෙරුවන් සරණට පැමිණි දවසේ, තෙරුවන් සරණ තුළ පිහිටලා මයි මේවගෙන් නිදහස් වෙන්න තියෙන්නෙ. අමනුස්ස ප්‍රශ්න එහෙන්. තෙරුවන් සරණින්මයි නිදහස් වෙන්න තියෙන්නෙ. හදිහූනියම්, කොඩිවින අනවින මේවගෙන් තව ප්‍රශ්න. කවදාද මේ ප්‍රශ්න වලින් නිදහස් වෙන්නෙ. තෙරුවන් සරණට පැමිණීමෙන්. එතං කෝ සරණං කේමං, මේ ලෝකෙ බිය රහිත වූ සරණ එයයි. ඒතං සරණ මුත්තමං, මේ ලෝකයේ උතුම් සරණ එයයි. ඒතං සරණමාගම්ම සබ්බදුක්ඛාපමවුච්චති, මේ ලෝකයේ යම් කෙනෙක් දුකින් නිදහස්වුනා කියලා ඇත්තටම කියනවා නම් ඒ අය දුකින් නිදහස් වුනේ සරණ නිසා. තෙරුවන් සරණ නිසා. මේ ලෝකයේ සෝතාපන්න උත්තමයො බිහිවුනේ තෙරුවන් සරණ තුල. මේ ලෝකයේ සකදාගාමියා බිහිවුනේ තෙරුවන් සරණ තුල. මේ ලෝකයේ අනාගාමී උතුමෝ බිහිවුනේ තෙරුවන් සරණ තුල. මේ ලෝකයේ සියලු දුක් නැසූ රහතන් වහන්සේලා රහත් තෙරණිවරු බිහිවුනේ තෙරුවන් සරණ තුළ. තෙරුවන් සරණින් බාහිරව නම් පින්වතුනි මේ පිහිට මේ රැකවරණය නැත. ඒ නිසා මේ අර්හත් උත්තමාවියගේ ගාථාව අපිට හරි වටිනවා. ඒ උත්තමාවිය කියනවා බලන්න, අද මං ඒ ශෝක හුල් උදුරලා දාලා, තෘෂ්ණාව නැති කරලා දාලා නිවිලා ගියපු හිතකින් මම ඉන්නෙ. ඒ නිවී ගිය සිත මං ඇති කරගත්තෙ කෙහොමද. බුදු සම්දුන්වත්, සද්ධර්මයත්, ආර්ය සඟරුවනත් මං සරණ කරගත්තා. ඒ සරණ තුළ තමයි අර ඔක්කොම කරදර ප්‍රශ්න දුක්ගිනි ඈ නිවාගත්තෙ. ඈ සුවපත් වුනේ. එහෙනම් අපේ ජීවිතත් අපිට සුවපත් කරගන්න තියෙන්නෙ, සැපවත් කරගන්න තියෙන්නෙ, තෙරුවන් සරණට පැමිණිලා. වර්තමානයේ ලංකාද්වීපයේ ජන්මලාභය ලබපු අපි, අපිට මිහිඳු මහරහතන් වහන්සේ ධර්මදායාදය ලබාදීපු නිසා මේ රැකවරණය අපිට තියෙනවා. මේ ලංකාභූමියේ ජීවත් වෙන බොහෝ මිනිස්සු තෙරුවන් සරණේ පිහිටක් පතනවා. හැබැයි සරණ හරියට අඳුරගෙන නෙවෙයි. බොහෝ දෙනෙක් ජීවිතයට දුක් කරදර පීඩා ආවම විතරයි තෙරුවන් සරණ තියෙනවා කියලා හරි මතක් කරගන්නෙ. ඒකත් අර දුක් කරදරය තියෙන ටිකක් තාවකාලිකව ඒ කාලෙට විතරයි. ඒ කරදර

ඉවර වෙච්චි ගමන් ආයෙ ඔක්කොම අමතක කරනවා. ඒක මහා අභාග්‍යයක්. ඒ අයට සරණ, පිහිට, රැකවරණය නැතිවෙලා යනවා. ඒ නිසා පින්වතුනේ මේ බණ පද අහන අපි අපේ ජීවිතේ ගැන හොඳට තේරුම් ගන්න ඕන. කොහොමත් වයසට යන, කොහොමත් ලෙඩ වෙන, කොහොමත් මැරෙන, ආයුෂය කොහොමත් ගෙවී යන, කොහොමත් වැනසී යන ජීවිතයක් අපිට උරුම වෙලා තියෙන්නෙ. ඒ උරුම වෙච්චි ජීවිතේ නාකි වෙන, ලෙඩ වෙන, මැරෙන, නැසෙන වැනසෙන ජීවිතේට යම් රැකවරණයක් තියෙනවා නම් ඒ තෙරුවන් සරණ බව අපි හොඳට හිතේ කාවද්දගන්න ඕන. ඒ කාවද්දගෙන තෙරුවන් සරණ තුළ ජීවිතේ පිහිටුවාගන්න ඒ සරණින්මයි අපිට රැකවරණයක් ලැබෙන්නෙ. ඒ සරණ තුළ පිහිටා ජීවිතයට රැකවරණය සළසාගත්ත උබ්බෙරීය අර්හත් උත්තමාවිය, අනෙකුත් අර්හත් තෙරණිවරු, උතුම් රහතන් වහන්සේලා නිවී සැනසුනු අමා මහ නිවසේ සැනසෙන්න අප හැමදෙනාටත් වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!!

අප රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අනුමෝදන් කරමු අපි පළමුවෙන්ම සියලු දෙවිවරුන්ට. සක්දෙවිඳුන්, සතර වරම් දෙවිවරු, සෙන්පති දෙවිවරු ප්‍රධාන සියලු දෙවිවරු මේ සියලු පින් සතුටු සිත් ඇතිව අනුමෝදන් වෙත්වා. අපගේ ඉෂ්ටකාමී හිතකාමී සියලු දෙවිවරුන්, ශ්‍රීමත් සුමන සමන් දෙව්රජ ප්‍රධාන මේ ලංකා භූමිය සුරකින සියලු දෙව්දේවතාවුනුත් මේ සියලු පින් අනුමෝදන් වෙලා දෙවියො දිව්‍ය සැපයෙන්, දිව්‍ය ආශ්චර්‍යයෙන් වැඩෙත්වා. ඒ දෙවියෙන්ගේ සියලු ආරක්ෂා රැකවරණ අපි හැමදෙනාටම දෙවියෝ සළසත්වා. දෙවියන්ටත් සංසාර දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් දෙවියන්ට පින් අනුමෝදනා සිදු කරමු. රැස් කලා වූ සියලුම පුණ්‍ය ධර්මයන් අපගේ ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව, නිරෝගීව, දීර්ඝායුෂ සම්පත් ලබත්වා. මේ ගෞතම ශාසනය තුළ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරගන්න වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද ධර්ම දානමය පින්කම සිදු කරන පින්වත් ශාමික බාලසිංහ පුතණුවන්ගේ නමින්, ඒ වගේම කණිෂ්කා දියණිය, ඩිලාන් පුතණුවන් ඇතුළු, ඒ පවුලේ හැමදෙනාගේ නමින් යම්තාක් මියයන්නට යෙදුනු ඥාතීන් හිතමිත්‍රාදීන් වෙත්ද, සියලූ ඥාතීන් අනුමෝදන්ව ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදනා සිදු කරන්න. අද දවසේ උපන්දිනය

යෙදෙන පින්වත් විජයකුමාර බාලසිංහ අප්පච්චීට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ජූනි මාසෙ 12 වෙනි දින උපන්දිනය යෙදුනු ලොකු අප්පච්චීට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ඒ උපන්දිනය යෙදුනු ශාමික බාලසිංහ පුතානුවන්ගේ අප්පච්චී සහ ලොකු අප්පච්චී යන ඒ දෙදෙනාටම නිදුක් නිරෝගී සුවශාන්තිය, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. තෙරුවන් සරණින්, සියලු දෙවි රැකවරණින් සියලු යහපත අභිවෘද්ධිය උදාවේවා. සුවසේ පින් දහම් රැස් කරගෙන දහම් මග දියුණු කරගන්නටත් සම්බුද්ධ ශාසනයේ ධර්මාවබෝධ කරන්නටත් වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. රැස් කල සියලු පුණ්‍ය ධර්මයන් ධර්ම දානය සිදු කරන පින්වත් ශාමික බාලසිංහ පුතණුවන්ට අනුමෝදන් වෙත්වා. ඒ මෑණියන්ටත්, කණිෂ්කා දියණිය, ඩිලාන් පුතණුවන් යන ඒ පින්වතුන්ලාට මේ සියලු පින් එකලෙසම අනුමෝදන් වෙත්වා, පසිදු මුණුපුරාට සහ සහනායා මිණිබිරියටත් මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ධර්ම දානය සිදු කරන ඒ පින්වතුන්ලාගේ පවුල් වල සෑම සියලු දෙනාට පින් අනුමෝදන් වෙලා ඒ සියලුදෙනාට සියලු යහපත අභිවෘද්ධිය සැලසේවා. කරන කියන රැකී රක්ෂා ආදිය, ඒ දූදරු මුණුපුරු මිණිපිරියන්ගේ අධ්‍යාපන කටයුතු ආදිය සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා, තෙරුවන් සරණින් සියලු දෙවි රැකවරණින් රැස් කල පින ආශිර්වාදයෙන් සියලු යහපතම උදාවෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාට ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ හැමදෙනාට, සුපින්වත් ඔබට සුවසේ පින් දහම් රැස් කරගෙන දහම් මග දියුණු කරගෙන ගෞතම ශාසනය තුළ සුවසේම ධර්මාවබෝධ කරන්න ලැබේවා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=Pyl7HYej_mM

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද දවසේ මේ උතුම් ධර්ම දේශනාවට දායකත්වයන් එකතු කරනවා ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික සාමාජිකාවන් පිරිසක් විසින්. ඒ පින්වතුන්ලාගේ උතුම් ධර්ම දාන දායකත්වයෙනුයි අද ධර්මය ඔබ මේ විදියට ශ්‍රවණය කරන්න. ධර්ම දානය කියලා කියන්නෙ පින්වතුනි, මේ ලෝකයේ තියෙන සියලු දාන අතරෙ අග්‍රම දානයයි. අද දවසේ ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු දේශනාවේදී ඒ ධර්ම දානය සිද්ධ කරලා, සංසාර ගමනේ ධර්ම දානය සිද්ධ කරලා සැපවත් වෙච්චි උතුම් ජීවිතයක් ගැනයි අපිට ඉගෙන ගන්න ලැබෙන්නෙ. සුක්ඛා තෙරණිය. සුක්ඛා කියන අර්හත් උත්තමාවිය, අර්හත් තෙරණිය ඇය මේ සංසාරික ගමනේ එනකොට මේ බුද්ධ ශාසනය ලැබිච්චි ලැබිච්චි ජීවිතේ කරලාම තියෙන්නෙ ධර්ම දානය. හරියට බුද්ධ ශාසන මුණගැහිලා තියෙනවා. එක දිගට බුද්ධ ශාසන මුණගැහෙනවා. බොහෝ දුරට මේ එක දිගට බුද්ධ ශාසන මුණගැහෙන්න හේතුවෙන්නත් ඇත්තෙ ධර්ම දානමය පින. ඇගේ චරිතාපදානය ආරම්භ වෙන්නෙ අටුවා පොත්වහන්සේලාගේ ඇගේ චරිතාපදානය සටහන තියෙන්නෙ විපස්සී බුද්ධ ශාසනයේ ඉඳන්. විපස්සී බුදුරජාණන් වහන්සේගේ කාලයේ, මීට අනූ එක් කල්පයකට පෙර ඇය මනුස්ස දූවක් වෙලා ඉපදිලා හිටියා. තරුණ වයසේදීම විපස්සී බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ භික්ෂුණීන් අතර පැවිදි වුනා. පැවිදි වෙලා ඇ අන් අයට ධර්මය කියාදෙන්න පටන් ගත්තා. ධර්මය කියාදෙන්න යනකොට ඇ ධර්ම කතාවට හරී දක්ෂයි. මේ ධර්ම කතාවට දක්ෂ නිසා ධර්මකථික භික්ෂුණියක් බවට පත්වුනා. බොහෝ දෙනෙකුට ධර්මයේ පිහිට ඇය සලසලා දුන්නා. හැබැයි ඒ විපස්සී බුද්ධ ශාසනයේ ඇ එච්චර බණ දහම් කියලා දීලත් ඇයට බැරිවුනා මාර්ගඵල අවබෝධ කරන්න. නමුත් ඇය ධර්මය කිව්වා. ඔන්න විපස්සී බුද්ධ කාලයේ ධර්ම දානය දුන්නා. විපස්සී බුද්ධ ශාසනයේ ධර්ම දානය දීපු පිනෙන් ඇ උපදිනවා දෙව්ලොව. දෙව්ලොව ඉපදිලා ආයෙ ඇ මනුස්ස ලෝකෙ උපදිනවා සිඛී අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළ වෙච්චි කාලෙ. ඒ බුද්ධ ශාසනෙත් පැවිදි වුනා, භික්ෂුණී සංඝයා අතරේම. ඒ බුද්ධ ශාසනෙත් ඇ ධර්ම කථිකයි. එක දිගට බණ කිව්වා. බොහෝ දෙනෙකුට ධර්මයේ පිහිට හදලා

දුන්නා. ඈ මාර්ගඵල අවබෝධ කලේ නෑ. ඒ ජීවිතෙනුත් චුත වෙලා යළි සුගතියේ උපන්නා. ආයෙත් වෙස්සභූ බුදුරජාණන් වහන්සේගේ ශාසනය ඇයට මුණගැහුනා. ඒ ශාසනය ගත්තත් ඒ විදියමයි. භික්ෂුණී සංඝයා අතරේ පැවිදි වෙලා ඇය ධර්මකථික භික්ෂුණියක් වුනා, ගොඩාක් බණ දහම් කියලා දුන්නා. ඔය විදියට පැමිණිලා මේ මහා භද්‍ර කල්පයේ මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු හතලිස්දාහක් වෙච්චි කාලයේ කකුසඳ බුදුරජාණන් වහන්සේගේ ශාසනයේත් මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු තිස් දාහක් වෙච්චි කාලයේ කෝණාගම බුදුරජාණන් වහන්සේගේ ශාසනයේත් මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු විසිදාහක් වෙච්චි කාලයේ කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ ශාසනයේත් කියන මේ ශාසන තුනේමත් ඈ භික්ෂුණී සංඝයා අතරේ පැවිදි වුනා. ධර්ම කථික භික්ෂුණියක් බවට පත්වෙලා බොහෝ දෙනාට බණ දහම් කියලා දුන්නා. බලන්න මැගේ ජීවිතය ධර්ම දානමය පිනෙන්ම පෝෂණය වෙවී ආපු එකක්. මේ මහා භද්‍ර කල්පයේ සතරවෙනි අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ විදියට අප තිලෝගුරු ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ පහළ වෙද්දි ඔන්න ඈ උපදිනවා රජගහනුවර, බොහෝම ධනවත් පවුලක. ඇගේ නම සුක්ඛා. මේ සුක්ඛා තරුණිය, ඉතාම තරුණ වයසේදීම ධම්මදින්නා කියන සම්බුද්ධ ශාසනයේ ධර්මකථික භික්ෂුණීන් අතර අග්‍ර භික්ෂුණියව ඇසුරු කරනවා. ඇගෙන් ධර්මය අහනකොට ඇයට හිත පැහැදුනා. ධම්මදින්නා අර්හත් උත්තමාවිය සමීපයේ පැවිදි වුනා. පැවිදි වෙලා නොබෝ කලකින්ම සියලු කෙලෙස් නසා අර්හත් තෙරණියක් බවට පත්වුනා, සුක්ඛා අර්හත් තෙරණින් වහන්සේ. දැන් බලන්න මේ සංසාර ගමනේ පින් පුරාගෙන එන වැඩපිළිවෙල ගැන, හොඳට තේරුම් ගන්න පුලුවන් තැන් මේ. විපස්සී බුද්ධ කාලෙත් ඇය අග්‍ර ධර්ම දානය දුන්නා. හැබැයි මාර්ගඵල ලැබුවේ නෑ, පින් රැස් වුනා. සිඛී වෙස්සභූ බුද්ධ ශාසනවලත් ඈ අග්‍ර වූ ධර්ම දානයම දුන්නා. ඇයට මාර්ගඵල ලබන්න බැරිවුනා හැබැයි පින රැස් වුනා. ඒ රැස් වුන පින විසින් ඇයට සුගති ආරක්ෂාව ලබලා දුන්නා. පින රැස් කරගන්න වැඩපිළිවෙල ඇට ආරක්ෂා කරලා දුන්නා. පින රැස් කරගැනීමේ අවස්ථාව පින විසින්ම ඇයට හදලා දුන්නා. ඒ නිසා පින්වතුනි පින් කිරීම කියන එක නම් ජීවිතේ මගහැර නොගෙන කළයුතු එකක්. කවදාවත් පින කියන එකට ප්‍රමාද වෙන්න එපා. මේ බුද්ධ ශාසනයේ අර්හත් උත්තමාවියන්ගේ, රහතන් වහන්සේලාගේ මේ චරිතාපදාන ගැන අපිට මේ අපේ යතිවරයාණන් වහන්සේලා සටහන් ඉතිරි කරලා තියෙන්නෙ ඇයි? මේ උදෙසාමයි. සංසාර ගමනක පින් කලොත් ඒ ගමන වෙනස් වෙන හැටි. පින්

නොකර යන සංසාර ගමන ඉතාම බිහිසුණුයි, දුක්ඛිතයි. පින් රැස් කර කර යන සංසාර ගමනෙත් දුක උරුම වෙනවා. මොකද සංසාරෙ දුක උරුම නිසා. හැබැයි ඒ දුක් අතරේ පින් රැස් කරපු ජීවිතයට සත්පුරුෂයාගේ ආශ්‍රය, තව පින් කරගන්න තියෙන අවකාශය මේවා මුණගැහෙනවා. පින විසින් තමයි යළි පින් කිරීමේ අවස්ථාව හදලා දෙන්නෙ. පින විසින් යළි පින් කිරීමේ අවස්ථාව හදලා දෙනකොට එයා ඒ මොහොතෙත් පින් කලොත් ඒ පින යළිත් පින් කරන්න අවස්ථාවක් හදලා දෙනවා. එහෙම තමයි මේ වැඩපිළිවෙල යන්නෙ. අවසානයේ පින මුහුකුරා ගියාට පස්සෙ මෝරන ලද පිනෙන් ලබාදිය හැකි උපරිම සැපය ලබාදෙනවා. ඒ උපරිම සැපය කියලා කියන්නෙ මොකක්ද, නිවන් සැපය. දැන් සුක්ඛා තෙරණියට මේ බුදුරජාණන් වහන්සේලා සත් නමකගේම ශාසන වල පින් පුරන්න සිද්ධ වුනා. හත්වෙනුව හමුවුන අපගේ ගෞතම අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ තමයි ඇය අර්හත්වයට පත්වුනේ. අර්හත් උත්තමාවිය බවට පත්වෙලත් ඇය හරිම ධර්මකථිකයි. පිරිස් පිරිවරාගෙන ඇය බණ කියනවා. ඇය බණ කියනකොට අහන්න ඉන්න හරි ආසයි. ඈ බණ කියනකොට අහන් ඉන්න ආස කලේ මිනිස්සු විතරක් නෙවෙයි, ඇගේ බණ අහන්න අමනුස්සයෝත් සතුටුයි. එක අවස්ථාවක මෙහෙම සිද්ධියක් වුනා, ඈ පිරිසක් පිරිවරාගෙන රජගහනුවර එක්තරා තැනක ධර්ම දේශනා කරමින් හිටියා. ඈ එසේ බණ කියනකොට ඒ මොහොතේ ඔය බණ පද අහගෙන හිටියා - දැන් මිනිස්සු බණ අහනවා, මිනිස්සු බණ අහන අතරේ ඇය කියන බණ පද අහගෙන හිටියා එක්තරා යක්ෂයෙක්. යක්ෂයාට හිත පැහැදුනා. හිත පැහැදුනාට පස්සෙ යක්ෂයාට නිකං අර කේන්තියක් හටගත්තා මෙච්චර ලස්සන බණ, මේ රජගහනුවර බහුතරයක් අහන් නැනෙ. යක්ෂයාට එහෙම හිතුනා. දැන් මේ සුක්ඛා කියන භික්ෂුණිය මෙච්චර ලස්සනට බණ කියනවා. නමුත් බණ අහන්න ඉන්නෙ පොඩි පිරිසයි. රජගහනුවර ජනගහණයත් එක්ක ගත්තොත් චුට්ටයි බණ අහන්න එන්නෙ. මේකුන්ට මක් වෙලාද. මෙච්චර වටින බණ පදයක් අහගන්න එන්නැත්තෙ කියලා යකාට කේන්ති ගියා. ඊටපස්සෙ මේ යක්ෂයා කලේ මොකක්ද, මේ යක්ෂයා රජගහනුවර පාරක් පාරක් ගානෙ යනවා කියනවා, හන්දියක් හන්දියක් ගානෙ යනවා කියනවා වේශයක් මවාගෙන. වේශයක් මවාගෙන ගිහිල්ලා රජගහනුවර මිනිස්සුන්ට හිතට වදින්න මෙහෙම කිව්වා. සුක්ඛා භික්ෂුණිය දේශනා කරන්නෙ බුදුසමිඳුන් වදාළ ශ්‍රී සද්ධර්මයයි, ඉතින් ඒ ධර්මය අහන්න මේ මිනිස්සු එන්නේ නැත්නම්, මේ රජගහනුවර මිනිස්සු ඉන්නෙ මත්පැන් බීලා

වෙරිවෙලා නිදාගෙන ඉන්න උදවිය වගේ. මේකුත් බීලා වෙරිවෙලාද ඉන්නෙ මේ බණ අහන්නැත්තේ කියලා යකෙක් කිව්වා ඒ කාලෙ, බණ අහන්නැතිකොට. ඇයි පින්වතුනේ ධර්මය ඇහීමෙන් තමයි ජීවිතයට හැබෑවටම සුවයක්, ශාන්තියක්, සැපයක්, සතුටක් උපදින්නෙ. ඒ ධර්මයටම අවධානය යොමු කරන් නෑනෙ. ඒ ධර්මයටම අවධානය යොමු කරන්නෑනෙ, ඇයි හේතුව? මත්වෙලා සිහිය පත නැතිව ඉන්නෙ. සාමාන්‍ය මනුස්සයා, සාමාන්‍ය ධර්මාවබෝධ නොකරපු ජීවිතේ ධර්මය ගැන වැටහීම් මාත්‍රයක් නැති ජීවිතේ මතය තුලමනෙ ඉන්නෙ, මත්වෙලා. මේ මත්වීම කියලා කියන්නෙ මොකක්ද, බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ සත්වයාගේ ජීවිතේ කාරණා තුනක් මත මත් වෙනවා. ඒ මත්වෙන නිසා ඒවට කියනවා මද. මදය විසින් ඇති කරන්නේ කුමක්ද, මද, ප්‍රමාද. මදය විසින් ප්‍රමාද කරන්නේය. මදය විසින් ප්‍රමාද කරන්නේ කුමක්ද, කුසලයට ප්‍රමාද කරයි. පිනට ප්‍රමාද කරන්නේය. යහපත ට ප්‍රමාද කරන්නේය. ඒක තමයි මදයක් විසින් කරන දේ. ඒ මද මොනවාද? ආරෝග්‍ය මද, චුට්ටක් ලෙඩ නොවී තියෙනකොට මේ ශරීර කූඩුව මත්වෙනවා. අපිට ඔය ලෙඩ නෑනෙ. අපිට ලෙඩ නෑ. අපි ඉතින් නිරෝගී අයනෙ, මත් වෙනවා. වෙරි වෙලා. අනිත් අයගේ වගේම ශරීර කූඩුවක් තමන්ට තියෙන්නෙ, අනිත් අයට හැදෙන්න පුලුවන් ඕනම ලෙඩක් තමන්ටත් හැදෙන්න පුලුවන් කියලා එහෙම නෑ. හිතනවා මම ලෙඩ වෙන් නෑ කියලා. දැන් මේ කාලෙ වුනත් ඔය සෞඛ්‍ය උපදෙස් ආදිය හැමෝම පිළිපදින් නෑනෙ. වෙරි, මත්වෙලා. ඇයි හිතනවා අනිත් අයට වැළඳුනාට අපිට නැත. ඒකට තමයි කියන්නෙ වෙරිය, සිහියපත නැතිකම. එතකොට ඒ එක මත්වීමක්. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා යොබ්බන මද, යෞවන මදය. චුට්ටක් මේ ශරීරයට හයිය හත්තිය තියෙනකොට තරුණකම තියෙන කොට ඒකට වෙරි වෙනවා. ඒකට වෙරි වුනත් සිහිය නුවණ අහිමි වෙලා යනවා. ඊළඟ එක ජීවිත මද. ජීවිතය ගැන මත්වෙනවා. මේ ජීවිතේ ජීවත් වෙනකොට මේ ජීවිතේ මැරෙනවා කියන අදහස නෑ. මත්වෙනවා. ඔන්න ඔය මත්වීම ඇත්තටම බීලා වෙරිවුනා වගේ තමයි. බීලා වෙරිවුනාම මොකක්ද වෙන්නෙ, සිහිය නුවණ අහිමි වෙනවා. ආරෝග්‍ය මදයෙන් මත්වුනත්, යෞවන මදයෙන් මත්වුනත්, ජීවිත මදයෙන් මත්වුනත්, ඒ වෙන්නෙත් ඒ ටිකමයි. සිහිය අහිමි වෙනවා, නුවණ අහිමි වෙනවා. බීලා වෙරිවුනා වගේ තමයි, ඒ කෙනාට ඔක්කොම අමතකයි. එහෙම වුනා භාග්‍යවතුන් වහන්සේ වැඩ ඉන්න කාලෙම එක කාන්තාවො පිරිසක්, එතන හිටියෙ සුලුපටු කාන්තාවො පිරිසක් නෙවෙයි, කාන්තාවො පන්සීයක්. හොඳ

කුල කාන්තාවො, හොඳ වංශවත් අය. මේ වංශවත් පැළැන්තියෙ කාන්තාවො පන්සිය දෙනා කතාවුනා කියනවා නිවාඩු දවසක විනෝද චාරිකාවක යන්න. එතකොට මේක සුලුපටු විනෝද චාරිකාවක් නෙවෙයි, පන්සීයක කාණ්ඩයක් යනවා කියන්නෙ, මේක අමුතු පහේ විනෝද චාරිකාවක්. ඒ කාලෙ තිබුනු රථය ඉතින් කරත්තනෙ. දැන් මැලා කරත්ත කිහිපයක නැගිලා හොඳ හැඩට ඇඳ පැළඳගෙන, අවශ්‍ය කරන බඩුභාණ්ඩාදියත් අරගෙන මේ ගොල්ලන්ගේ විනෝද චාරිකාවට, ට්‍රිප් එකට නික්මුනා. දැන් නික්මිලා මේගොල්ලො යනකොට මේ ගොල්ලන්ට යන්න තියෙන්නෙ සැවැත් නුවර, අපේ විශාඛා මහෝපාසිකාවගේ මන්දිරය ඉස්සරහින්. විශාඛා මහෝපාසිකාව කියන්නෙ මහා සම්භාවනීය කාන්තාවක් සමාජයේ හිටපු. විශාඛාවගේ මන්දිරය ගාවින් ඉස්සරහින් යනකොට විශාඛා එළියේ හිටියා. එළියේ ඉන්නකොට මේ කාන්තාවන්ට බෑ විශාඛාව බල බලා කරත්තේ නැගලා, නොදැක්කා වගේ යන්න බෑ. කරත්ත නැවැත්තුවා. කරත්ත නවත්තලා විශාඛාට කතා කරලා යන්න බැස්සා. විශාඛා අහනවා, මේ මහා නැගණිවරු පිරිසක් එකතු වෙලා කොහේ යනවාද. කිව්වා ඉතින් අපි පොඩි නිවාඩුවක් හදාගෙන අපි විනෝද චාරිකාවක් යන්න කල්පනා කලා, සතුටු වෙන්න, සිරි නරඹන්න. එතකොට විශාඛා අහනවා, නැගණිවරු සිරි නරඹන්න යොදාගත්තෙ කොහේද. එතකොට කියනවා අසවල් වනාන්තරය තියෙනවානෙ, ඒ වනාන්තරය තමයි අපි සිරි නරඹන්න කියලා කල්පනා කලේ. එතකොට විශාඛා කියනවා අයියෝ ඒ වනාන්තරයට වඩා කොච්චර ලස්සනද සැවැත් නුවර ජේතවනාරාමය. ජේතවනාරාමය නොවැ ලස්සන. එහෙ නොවැ බලන්න දේවල් තියෙනන්නෙ. නැගණිවරු ලස්සනට සිරි නරඹලා අද සතුටුවෙන්න යන ගමන නිසා ඉතින් මාත් එකතු වෙන්නම් අපි යමුකො ජේතවනාරාමයට කිව්වා. විශාඛාගේ වචනය අහක දාන්න බෑ. විශාඛා කියන්නෙ සම්භාවනීය කාන්තාවක්, පිළිගත්ත කාන්තාවක්, ගෞරවනීය කාන්තාවක්, ප්‍රභූ කෙනෙක්, අහක දාන්න බෑ. ඇතැම්හු කැමැත්තෙන්, ඇතැම්හු අකමැත්තෙන් මේකට කැමැති වුනා. කරත්ත ටික හැරෙව්වා. විශාඛාත් කරත්තෙක නැගලා, දැන් විශාඛාව යනවා තමන්ගේ ඒ මිත්‍ර නැගණිවරුත් එක්ක සැවැත් නුවර ජේතවනාරාමයට. කිව්වත් වගේ ජේතවනාරාමය හරී ලස්සනයි. අපේ අනේපිඩු සිටුතුමා රමණීය භූමිභාගයකනෙ ඔය ජේතවනාරාම විහාරය කෙරෙව්වෙ. දැන් මේ වෙනකොට ඉතින් අනිත්‍ය ධර්මය විසින් ඒ රමණීය බව නැති කරලා දාලා. නමුත් ඒ කාලෙ බොහෝම රමණීයව තිබ්බ තැනක්. විශාඛා මහෝපාසිකාව ජේතවනාරාමයේ

තියෙන ලස්සන ලස්සන තැන් වලට මේගොල්ලන්ව එකතු කරගෙන ගියා. එකතු කරගෙන ගිහිල්ලා ඒ ලස්සන තැන් පෙන්නුවා. පෙන්නලා ටික වෙලාවක් ගියාට පස්සෙ විශාඛා කියනවා, දැන් නැගණිවරු ඇවිදලා ඇවිදලා මහන්සිත් එක්කනෙ. අපි පොඩ්ඩක් ජේතවනාරාමයේ දම්සභා මණ්ඩපයට ගොඩවෙලා එතන ශාලාවේ විවේකයකුත් ගමු. ඒ විවේකය ගන්න ගමන් භාග්‍යවතුන් වහන්සේගෙන් බණ පදයකුත් අහමු. මං බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්නවද කියලා බලලා එන්නම් කියලා ඔන්න විශාඛා පිටත් වුනා. පිටත් වෙනකොට මේ පන්සීයේ කාණ්ඩෙ හිටියා ටිකක් නොහික්මුණු පහේ කාන්තාවො. මේ කාන්තාවො මෙතෙන්ට අදහසක් ගෙනාවා. කාන්තාවො කිව්වා මදෑ අපිට වෙච්චි එකක්. අපි මේ සන්තෝෂ වෙන්න ඇවිල්ලා. අපි යන්න හිටියේ කොච්චර නිදහසේ මහා වනාන්තරය ඇතුලට ගිහිල්ලා පොඩ්ඩක් මත්පැන් බීලා මත්වෙලා අපි එහෙමනෙ සතුටු වෙන්න හිතන් හිටියෙ. දැන් ඒ ඔක්කොම ඉවරයි. ඒ නිසා දැන් ඔය ගෙනාපු මත්පැන් ටික විශාඛා එහෙ මෙහෙ වෙච්චි වෙලේ බීලා දාමු කිව්වා. ඒ අදහස දැම්මා විතරයි ඔක්කොමලාට ඒකෙ හිත පිහිටියා. කාන්තාවො බිව්වා, පුංචි පුංචි කුප්පි වල තිබ්බා මෙයාලාගෙ ගෙනාපු මත්පැන්, මෙයාලා බිව්වා. බීලා දැන් කාන්තාවො ටික ඉන්නෙ වෙරි වෙලා. බුදුරජාණන් වහන්සේ ඔතෙන්ට වැඩම කලා. භාග්‍යවතුන් වහන්සේ වැඩම කොට ධර්මාසනයේ වැඩ ඉඳලා ධර්මය දේශනා කරන්න ආරම්භ කරනකොට පුරවි කිරිල්ලකගේ නාදය පරදන ඒ මිහිරි වූ භාග්‍යවතුන් වහන්සේගේ ස්වරය දැන් මේ ගොල්ලන්ට ස්වරය විතරක් ඇහෙනවා, කියන්නෙ මොකක්ද කියලා තේරෙන්නෙ නෑ. ඒ ස්වරයේ හඬට වසඟ වුනා. වසඟ වෙලා මෙතන හිටපු එකියකට මේක දැන් ගීතයක් වගේ ඇහෙන්නෙ. අත්පුඩි ගහන්න පටන් ගත්තා. තවත් එක කාන්තාවක් ඒ අත්පුඩියට අනුව ඇඟිලි වලින් තාල තියන්න පටන් ගත්තා. තවත් කාන්තාවක් හොඳට දිවත් නමලා විසිල් එකක් ගැහුවා. ඉතින් මෙතන වෙනම එකක් නිර්මාණය වෙන්න පටන් ගන්නකොට ඒ මහා කාරුණික ශාස්තෘන් වහන්සේ සත්වයන් කෙරෙහි කරුණා නේත්‍රයෙන්ම බලනා ශාස්තෘන් වහන්සේ ඍද්ධියක් කලා. මුළු දම් සභා මණ්ඩපයම ඝන අන්ධකාරයකින් පිරී ගියා. ඒ ඝන අඳුර ආවා විතරයි අර කාන්තාවො එක්කෙනෙකුට එක්කෙනෙක් නොපෙනී ගියා. කාන්තාවන්ට බය හටගත්තා. භීතියත් එක්ක ඈලාගේ වෙරි හිඳුනා. දැන් වෙරි හිඳුනට පස්සෙ ඈලාට හොඳට සිහිය, නුවණ තියෙනවානෙ. භීතියට පත්වෙලා සංවේගයට පත්වෙලා ඉන්න කාන්තාවන්ට ඒ අන්ධකාරයේම මිහිරි හඬක් ඇහෙනවා. කෝනුහාසො

කිමානන්දො මිච්ඡං පජ්ජලිසේසති අන්ධකාරෙන කෝනද්දා තදීපං න ගවෙස්සත, බුදුරජාණන් වහන්සේ අහනවා කෝනුහාසො - මොන හිනාද, කිමානන්දො - මොන සතුටක් ද, නිජ්ජං පජ්ජලිතේ සති - හැම තිස්සේම කෙලෙස් ගිනි වලින් ඇවිලෙන්නෙ. එකොලොස් ආකාර වූ ගින්නකින් හැමතිස්සේම ජීවිතේ ඇවිලෙනවා. රාග ගින්නෙන් ඇවිලෙනවා, ද්වේෂ ගින්නෙන් ඇවිලෙනවා, මෝහ ගින්නෙන් ඇවිලෙනවා, ජරා ගින්නෙන් ඇවිලෙනවා, ව්‍යාධි ගින්නෙන් ඇවිලෙනවා, මරණ ගින්නෙන් ඇවිලෙනවා, ශෝක ගිනි, පරිදෙව ගිනි, මේ විදියේ එකොළොස් ගින්නකින් මේ ජීවිතේ ඇවිලෙනවා. එසේ ඇවිලි ඇවිලී තියෙද්දී අන්ධකාරෙන ඕලද්දා - ජීවිතේ ගැන අනවබෝධය නම් වූ අඳුරේම ගිලී ඉන්න ඔබ, පදීපං න ගවෙස්සත - මේ අන්ධකාරය දුරලන්න පහනක් හොයන්නෙ නැත්ද? ආන්න භාග්‍යවතුන් වහන්සේ මෙහෙම ඇහුවා. බුදුරජාණන් වහන්සේ මෙහෙම අහනකොට ඇලාට සිහි උපන්නා. ඇලා හොඳට සවන් යොමු කලා. බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කලා, පන්සීය දෙනාම, ඒ පන්සීය දෙනාම මාර්ගඵල ලැබුවා. එතකොට මේ ධර්මාවබෝධ කරන්න උපකාර කරන සිහි නුවණ මොකකින්ද වැහිලා තියෙන්නෙ වෙරි වීමෙන්. ඒ වෙරිය කියලා කියන්නෙ මොකේටද, මේ ජීවිතේ තුළ තියෙනවා තමා ගැන හටගත්තු මුලාවක්. ඒ මුලාවෙන් මත්වෙනවා. ලෙඩ නොවී ශරීරය චුට්ටක් තියෙනකොට අපි අපි ගැනම මත්වෙනවා. අපි අපි ගැනම මුලාවට පත්වෙනවා, මම නම් ලෙඩ වෙන් නෑ කියලා. ලෙඩ වීම කියන එක අපිට අමතක වෙනවා. ලෙඩවීම කියන එක අමතක වෙලාම යනවා. ඒකට කියනවා ආරෝග්‍ය මද. බුදුරජාණන් වහන්සේගේ ධර්මයේ හැසිරෙන නුවණැති ශ්‍රාවකයා නිතර සිහි කරන එකක්, මං ලෙඩ වෙන කෙනෙක්. ලෙඩ වෙන ස්වභාවයෙන් මං නිදහස් නෑ. දැන් මේ ශරීර කූඩුව නිරෝගීව තිබුනට මේක කොයි මොහොතේ ලෙඩ වෙයිද දන්නෑ. අන්න එයාට තියෙනවා ඒ මනසිකාරය. ඒ කල්පනාව. ඒ එයාට වෙරි නැති නිසා. අනිත් අයට තමන්ගේ ජීවිතේ ලෙඩ දුකක් එනකල්ම අමතකයි ලෙඩ එනවා කියලා. අන්න ඒකට තමයි කියන්නෙ පින්වතුනි මත්වෙලා ඉන්නවා කියලා. පුලුවන් මේ මත්වීමෙන් ගොඩ එන්න අපිට බුදුරජාණන් වහන්සේගේ ධර්මය මෙනෙහි කලොත්. ඊළඟට තරුණ අවධියේදී මේ ජීවිතේ ගැන අමතක වෙලා යනවා නාකි වෙනවා කියලා. තරුණ ඇයන්ට අමතක වෙලා යනවා අපි නාකි වෙන අය. අපේ ශරීරත් වැහැරෙනවා, අපිටත් එකතැන් වෙන්න වෙනවා, අපිත් ඔත්පල වෙනවා, අපිට බැරිගැහෙනවා, ඒක මතකයි. ඒක මතක් වෙන්නෙ නාකි වුනාම. නාකි වෙලා බැරි ගැහිලා

අමාරු වෙනකොට තමයි මතක් වෙන්නෙ හප්පේ මාත් නාකි වෙන මනුස්සයෙක්නෙ, මාත් නාකි වුනා නේද කියලා. එතකොට ප්‍රමාදයි, එතකොට හොඳටම ප්‍රමාදයි. ඒ හින්දා තමයි මද නැති කරගෙන වාසය කළයුත්තේ. මද නැති කරගන්නෙ බුදුරජුන්ගේ ශ්‍රාවකයා. සිහි කරනවා මමත් නාකි වෙන කෙනෙක්, නාකි වෙන ස්වභාවයෙන් මම නිදහස් නෑ, ආන්න එහෙම හිතනවා. ඊළඟට ජීවිත මදය. ජීවත් වෙන මනුස්සයාට අමතකයි මැරෙන්න වෙනවා කියන එක. ඒ හින්දා නොමැරෙන උදවිය වගේ හිතාගෙන ඕන එකක් කර කර ජීවත් වෙනවා. හොඳිනුත් ජීවත් වෙනවා, නරකිනුත් ජීවත් වෙනවා, යහපතත් කරනවා, අයහපතත් කරනවා, පිනුත් කරනවා, පවත් කරනවා, ඔහේ ජීවත් වෙනවා. ඇයි අමතකයි මැරිලා යන්න වෙනවා කියන කාරණය. ඒකත් මත්වීමක්. හැබැයි බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකා නම් නිතර හිත හිත වාසය කරනවා මං මරණයට පත්වෙන කෙනෙක්. මට මැරිලා යන්න සිද්ධ වෙනවාමයි කියලා. මේ දේවල් කල්පනා නොකර වාසය කළොත් එහෙම පින්වතුනේ, මේ දේවල් කල්පනා නොකර වාසය කරන කෙනා අන්ත අසරණ වෙනවා. අන්ත අසරණ භාවයට පත්වෙනවා. ඒ අසරණ භාවය බුදුරජාණන් වහන්සේ විස්තර විභාග වශයෙන් පෙන්වලා දෙන්න, භාග්‍යවතුන් වහන්සේ ජාතක කතාවක් වදාළා. ඒ ජාතක පුවතේ තියෙන්නෙ මෙහෙම සිද්ධියක්. ඈත අතීතයේ බරණැස්පුරයේ බ්‍රහ්මදත්ත කියලා මහාරජෙක් රජකම් කරන කාලෙ හිමාල වනයට වෙන්න ෂද්දන්ත කුලයේ මහා හස්ථි රාජයො වාසය කරලා තියෙනවා. ඔය ෂද්දන්ත කුලයේ හස්තිරාජයා කියලා කියන්නෙ පින්වතුනි වර්තමානයේ අපිට මේ ලෝකයේ දකින්න ඉන්න අලි ඇත්තුන්ට වඩා ලොකු එවුන්. මහා සුවිසාල ශරීර තිබුනු හස්ථීයො. මේ ෂද්දන්ත කුලේ හස්තීන්ගෙන් හස්ථි පිරිසක් අකාලයේ මියපරලොව ගියා. මරණයට පත්වෙන්න හේතුව හිමාලයට වැටිච්චි අකල් වර්ෂාවක්. ඒ වැස්සට ඇත්තු උණ ගත්තා. උණ අරගෙන උණ සනීප වෙන්නැතිව මේ ඇත්තු මැරුණා. මැරිච්ච ඇත්තුන්ගේ මෘත ශරීර දැන් ගහගෙන යනවා. ඒ ගහගෙන යනකොට මේ ගංගා කියන නදියේ මේක මුහුදට ගහගෙන යනවා. ඒ මුහුදට ගහගෙන යන මළකුණක් අහසේ ඉගිල්ලීගෙන යන කපුටෙක් දැක්කාය කියනවා. කපුට දැකලා මේ ගංගාව මැද තියෙන මලකුණේ වැහුවා. ඒ මළකුණේ වහපු කපුටා මේ මළකුණ කන්න ගත්තා. කනකොට මෙයාට තේරෙනවා මේකෙ මස් ගොඩාක් තියෙනවා. ඊටපස්සෙ මෙයා වටපිට බලනකොට මෙයාට පේනවා කපුටාට, ගංගා නදියේ වටේට හොඳට වතුර ටිකත් තියෙනවා. එතකොට කපුටා කල්පනා කලා දැන්

මට කන්නත් තියෙනවා, හොඳට බොන්නත් තියෙනවා. කෑම බීම දෙකම තියෙනවා නම් මං මේ මළකුණේම රැඳී ඉන්න එකනෙ තියෙන්නෙ, මොකටද ඉගිල්ලෙන්නෙ. කපුටා එහෙම තීරණයකට ආවා. ඇවිල්ලා දැන් කපුටා ඉන්නේ මළකුණ උඩමයි. හිතන වෙලාවක නැගිටිනවා කනවා, බොනවා, ආයෙ වකුටු වෙලා ඉන්නවා. මෙහෙම ඉන්නකොට මේ මෘතශරීරය වේගයෙන් ගහගෙන ගිහිල්ලා ඒ ගංගා නදියෙන් මහසයුරට වැටුනා. මහාසාගරය මධ්‍යටම ගහගෙන ගියා. මහාසාගරය මැදට ගහගෙන ගියාට පස්සෙ මේ කපුටා එදත් නැගිටලා මේ මළකුණට කොටලා බලනවා කන්න දෙයක්, දැන් කන්න දෙයක් නෑ. දැන් ඒ මෘත ශරීරය මාළු විසින් කාලා, ඊළඟට කුණු වෙලා ගිහිල්ලා, දැන් තියෙන්නෙ අර අලියාගේ හම්පොත්ත විතරයි, බඩ පිරෙන්න කන්න දෙයක් නෑ. එතකොට කපුටට තේරුණා දැන් නම් අවසානයි, මං ගොඩාක් තියෙනවා කියලා හිතාගෙන හිටපුවා ඔක්කොම දැන් අවසානයි. දැන් මං පිහිටක් හොයාගෙන යන්න ඕන. කපුටා එහෙම හිතනවා. හිතලා කපුටා ඉහළ අහසට නැගුනා. නැගිලා ඉගිල්ලිලා ගියා උතුරට. උතුරු පැත්තට යනවා යනවා යනවා ගොඩබිමක් නෑ. කපුටා කල්පනා කලා එහෙනම් දකුණට යන්න ඕන මං, දකුණට ගියා. දකුණේත් නෑ. නැගෙනහිරට බටහිර කිසි පැත්තක පින්වතුනේ පිළිසරණක් නෑ. සිව්දිශාවේම පිළිසරණක් නැතිකොට උං හිත හදාගත්තා කමක් නෑ එහෙනම් මං මෙච්චර කාලයක් හිටියේ මළකුණේනෙ. මං ඉතුරු ජීවිතේත් මැරෙනකල් ඔය මළකුණට වෙලා ඉන්නවා. එහෙම හිතාගෙන මළකුණ හොයාගෙන එනකොට ඒකත් නෑ. මහාසාගරයේ රළ ගෙඩි විසින් ඒක තිබූ තැනින් වෙනස් කරලා. අවසානෙ කපුටාට කරගන්න දෙයක් නැතිව ගියා. මහා සාගරයේ ගොදුරක් බවට පත්වුනා. මහා සාගරයේ ගොදුර බවට පත්වෙලා දැන් සයුරේ මාළුවො කාලා, ඒ කපුටාගේ කපුටු පිහාටුවක් මහාසාගරය මැද තියෙනවා. ඒ කාලයේ අපේ බෝසතාණන් වහන්සේ ඍද්ධි තිබුනු තාපසයෙක්. මේ තාපසයින් වහන්සේ මුහුදට උඩින් අහසේ යනවා. යද්දි දකිනවා කපුටු පිහාටුවක්. මහබෝසතාණන් වහන්සේ මේ පිහාටුව දැකලා කල්පනා කලා කපුටෙක්ගේ පිහාටුවක්, මෙච්චර මුහුද මැදට ආවෙ කොහොමද. ආන්න එතකොට බෝසතාණන් වහන්සේ නුවණින් බලනවා මොකක්ද සිද්ධ වුනේ කියලා. ඒ නුවණින් බලනකොටයි දැක්කෙ කපුටාට වෙච්චි නස්පැත්තිය. බෝසතාණන් වහන්සේ කල්පනා කලා මිනිස්සුන්ටත් වෙලා තියෙන්නෙ ඒ කතාන්දරයමනෙ. මිනිස්සුන්ගේ ජීවිතේ ලැබුනාට පස්සෙ මේ ජීවිතය ගැන මහා ඇල්මකින් අල්ල ගන්නවා. අපිට නම් දැන් ඔක්කොම

තිබේ කියලා. අමතකයි තමන් නාකි වෙනවා, ලෙඩ වෙනවා, මැරෙනවා, තමන්ට ප්‍රිය අය වෙන්වෙලා යනවා, ඒක අමතකයි. තමන් ආදරය කර කර ඉන්න ඒවා අනිත් අය ඔක්කෝම දාලා යන්න වෙනවා. ඒක අමතකයි. ඒක අමතක කරගෙන ජීවත් වෙන මනුස්සයාත් මේ කළු කපුටා වගේමනෙ. අවසානෙ ඒක අමතක කරගෙන ජීවත් වෙලා ජීවිතයට ඒවා උරුම වෙනකොට වයසට යනවා කියන එක අමතක කරලා සිහි නොකර හිටියා කියලා හිතමු. සිහි නොකර හිටියාට පින්වතුනේ නාකි නොවී ඉන්නවාද. දැන් අද ධර්මය කියනකොට ඇතැම් උදවිය කියනවානෙ ඔය වයසට යෑම ලෙඩවීම මරණය ගැන ඕවා කියන්න එපා ඕවා සෘණාත්මකයි කියලා. හරි අපි සෘණාත්මකයි කියලා ඔච්චා නොකියා හිටියා කියමුකො. එහෙම නොකියා හිටියා කියලා නවතිනවාද, වයසට යනවාමයි, ලෙඩ වෙනවාමයි, මැරෙනවාමයි, ජීවිතේ උරුමය එයයි. ජීවිතේ මොන දේ නොලැබුනත් ඔය ටික ලැබෙනවානෙ. ඒ ලැබෙන මොහොතට එනකොට අසරණයි. හරියට අර මහාසාගරය මැද අසරණ වෙච්ච කපුටා වගේ. ඒ නිසා භාග්‍යවතුන් වහන්සේ, අපේ ශාස්තෘන් වහන්සේ ධර්මය තුළ වදාළේ පින්වතුනේ නිතර සිහිනුවණ උපද්දගෙන සිහි කර කර වාසය කරන්න කිව්වා. මමත් වයසට යන කෙනෙක්, මමත් ලෙඩදුකට පත්වෙන කෙනෙක්, මමත් මරණයට පත්වෙන කෙනෙක්, මම මැරිලා යන වෙලාවට මට මේ ප්‍රියමනාප හැම වස්තුවක්ම අත්හැරලාදාලා යන්න වෙනවා. ඒ වෙලාවට මට පිහිටක් පිණිස පවතින්නේ මං විසින් හිත කය වචනයෙන් කරලා තියෙන දෙයක්. අන්න ඒක සිහි කරන්න කිව්වා. ඉතින් මේ කල්පනාව කෙලින්ම ජීවිතේ තියෙනවානම් ඒක කොච්චර රැකවරණයක්ද, තමන්ගේ ජීවිතේ ගැන තමන්ටම එහෙම කල්පනාවක් ඉපදිලා තියෙනවානම්. ඉතින් මේ යක්ෂයා තව කිව්වා, පඤ්චඅප්පටිවානීයං අසේචනක මෝජවං තිවන්ති මඤ්ඤේ සප්පඤ්ඤා වළාහකම් වද්දගො - බුද්ධිමත් උදවිය නම් මේ ධර්මය අත්හරින්නෙ නෑ. යම් කෙනෙක් බුද්ධිමත් නම් බුද්ධිමත් අය ඥාණවන්ත අය, නුවණ තියෙන අය, ප්‍රඥාවන්ත අය මේ ධර්මය අත්හරින් නෑ. පඤ්ඤාවන්තස්සායං ධම්මො නායං ධම්මො දුප්පඤ්ඤස්ස - මේ ධර්මය ප්‍රඥාවන්තයාට මිසක් දුෂ්ප්‍රාඥ වූ තැනැත්තාට නම් නොවේ. මේ ධර්මය ස්වභාවයෙන්ම රසවත්. මේ උතුම් ශ්‍රී සද්ධර්මය කියලා කියන්නෙ ස්වභාවයෙන්ම රසවත් එකක්. ගුණධර්ම නැමැති රසවත් ඕජාවෙන් යුක්තයි. ධර්මය තුල තියෙන්නෙ ගුණධර්ම නම් වූ රසවත් ඕජාව. කෙනෙකුගේ ජීවිතේ ධර්මය දියුණු වෙනවා කියලා කියන්නෙ මොකක්ද, එයා ගුණධර්මයන්ගෙන්

දියුණු වෙනවා කියන එක. ගුණධර්ම නැතිව ධර්මයක් දියුණු වෙනවා කියලා කතන්දරයක්, එහෙම එකක් නෑ. ගුණධර්මත් එක්කයි ධර්මය දියුණු වෙන්නෙ, යම් කෙනෙක් ගාව ධර්මය තියෙනවා නම් ඒ ධර්මය තිබෙනා තැනැත්තා තුළ ගුණධර්ම නම් ඕජාව තිබේ. ඒක තමයි තමන්ට ධර්මය ගැළපුනාද කියලා අඳුරගන්න තියෙන තැන. තමන් ගුණධර්මයන්ගෙන් වැඩෙන්න ඕන. යහපත් ගුණධර්මයන්ගෙන් තමන්ගේ ජීවිතය පෝෂණය වෙනවා නම් අන්න තමන්ට තමන් ගැන තේරුම් ගත්තහැකි. එහෙනම් මගේ ළඟ ධර්මය තියෙනවා. මගේ ජීවිතේට ධර්මය කියන එක සම්බන්ධ වෙලා. මට හුදෙක් දහම් දැනුමක් විතරක් නෙවෙයි තියෙන්නෙ, මට ධර්මය සම්බන්ධ වෙලා කියලා තේරෙනවා, ගුණධර්ම වැඩෙනවා නම්. ගුණධර්ම වැඩෙන් නැත්නම් එය දැනුමක් ම පමණි. ධර්මය කියලා කියන්නෙ ගුණධර්ම නම් වූ ඕජාව තිබෙන එකක්. මේ සද්ධර්මය අහන්න ඕන කාන්තාරයක වැසි ජලය පානය කරන කෙනෙක් වගේ. මතක තියාගන්න මේ ධර්මය ඇසිය යුත්තේ කෙසේද, නිරුදක කතරක වැසි ජලය පානය කරනවා වගේ, නිරුදක කතරක වැස්ස ඉතා දුර්ලභයි. නිරුදක කියලා කියන්නේම කාන්තාරය කියලා කියන්නේම වතුර නැති නිසා. වතුර නැති කාන්තාරයක වර්ෂාව කියලා කියන්නෙ ඉතාම දුර්ලභ එකක්. හැබැයි ඉතාම දුර්ලභව වැස්සක් වැටුනොත් ඒ නිරුදක කතරේ වැස්ස කියලා කියන්නෙ කොයිතරම් සැපය එලවන දෙයක්ද. කොයිතරම් සැප සලසන දෙයක්ද, නිරුදක කතරක වතුර පොදක් හම්බෙනවා කියන එක. අන්න ඒ වගේ කියනවා ධර්මය අහන්න ඕන. ධර්මය අහන්න ලැබුනාට පස්සෙ ධර්මය කියන එක, ඒ ධර්මය කියන ප්‍රණීත රසය විඳ විඳ අහන්න ඕන එකක්. මේ ලංකා භූමියට ඒ දහම් දායාදය අපේ අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේ අපහට ලබාදුන්නානෙ. අනුබුදු මිහිඳු මරහතන් වහන්සේ දහම් දායාදය ලබාදෙනකොට පින්වතුනේ අපේ මේ ලංකාවේ මුතුන් මිත්තන්, අපේ ලංකාවේ ලක්වැසියා ඇත්තටම නිරුදක කතරකට වැටෙන වැස්සක් වගේ ආසාවෙන් ධර්මය ගන්න දක්ෂ වුනා. ඒ කාලයේ බණ අහපු විදිය අපේ ඉතිහාස පොත් වල, බණ පොත් වල සඳහන් වෙනවා එක අවස්ථාවක චූටි දරු පැටියෙක් ඉන්න අම්මා කෙනෙක් ඒ අම්මා තමන්ගේ ඒ දරුපැටියාවත් වඩාගෙන රෑ එළිවෙනකල් තියෙන බණ මඩුවකට පැමිණුනා බණ පදයක් අහලා යන්න. එතකොට මේ අම්මා ආවේ නිරුදක කාන්තාරයක දියපොදක් ලැබෙනවා වගේ ආසාවේ බණ අහන්න. බණ අහන්න ආවට පස්සෙ මේ අම්මට තිබුනා ධර්ම ගෞරවය. මේ අම්මා කල්පනා කලා තමන්ට ඉන්නෙ අතදරුවෙක්. අතදරුවාට මේ කියන බණ ටික තේරෙන් නෑ.

එයා දාංගලයෙන් යුක්තයි. දරුවා දඟලන්න පටන් ගත්තොත් බණ අහන පිරිස මැද බණ අහන පිරිසට ඒක බාධාවක්. දේශකයන් වහන්සේට බාධාවක්. ඒ හින්දා මං කාටවත් බාධා කරන්න හොඳ නෑ, මං පාඩුවේ බණ ටික අහගන්න ඕන. බණ ඇසීමටනෙ මං ආවෙ. මම ඒ නිසා කෙළවරකට වෙලා බණ ඇහෙන මානයේ බණ අහන්න ඕන කියලා දුරකට වෙලා වාඩිවුනා. බණ මඩුවෙන් ඈත. හැබැයි බණ පද ඇහෙනවා. ඒ වාඩිවෙච්ච තැන නුදුරට වෙන්න තිබුනා පින්වතුනි තුඹසක්. ඔය තුඹහේ හිටියා විසඝෝර නාගයෙක්. අර අතදරුවා දඟලන පොඩි එකා දණගාගෙන ගිහිල්ලා ඔය හුඹහට අතක් දැම්මා. ඒ හුඹහට අතදානකොට තුඹසේ හිටපු නාගයා කිපුනා. කිපිලා දරුපැටියට දෂ්ට කලා. දෂ්ට කරනකොට මේ දරුවා එකපාර ඇඟ ගැස්සිලා ඇදගෙන වැටුනා. අම්මා දැක්කා නාගයත් ඇදිලා යනවා. මේ අම්මා කල්පනා කලා කියනවා - ඉතින් මේවා හරී විස්මයජනකයි. මේ අම්මා ඒ මොහොතේ කල්පනා කලා කියනවා, මෙතෙන්ට ඇවිල්ලා ඉන්නෙ බණ අහන්න පිරිස. රෑ එළිවෙනකල් බණ අහන අදහසින් මේ පිරිස ඉන්නෙ. මං මේ පිරිසගේ දහම් කතාවට බාධා කරන් නෑ, ධර්ම ශ්‍රවණයට මං බාධා කරන්නෑ. දැන් මගේ පුතාට මේ අනතුර වුනා කියලා මං කෑගහන්න ගියොත් සම්පූර්ණ බණ ඇසීම අඩාල වෙනවා. ඒ නිසා මගේ පුතාට නාගයා දෂ්ට කලාට කමක් නෑ, පුත්තු මේ සංසාරේ ඕන තරම් හම්බෙලා ඇති. හැබැයි මේ සසර ගමනේ බණ පද අහන්න ලැබීම, ඒක හරි දුර්ලභයිනෙ. ඒ නිසා අන් අයගේ ධර්ම දානයටත්, අන් අයට ධර්මය ඇසීමටත් බාධාවක් නොකර මාත් බණ අහන්න ඕන. ඒ අම්මට තිබුනා එහෙම ශක්තියක්, එහෙම හිතන්න. ඒ අම්මා එක දිගට බණ ඇහුවා, රෑ එළිවෙනකල් ඇහුවා. රාත්‍රිය පහන් වෙනකොට ඈ සෝවාන් වුනා. සෝතාපන්න ආර්ය ශ්‍රාවිකාවක් බවට පත්වෙලා ඒ අම්මා දැන් මේ බණ පදය අහගෙන ඉන්නවා. දේශකයන් වහන්සේ බණ ඉවර කලාට පස්සෙ ඒ අම්මා තමන්ගේ දරු පැටියා ළඟට යනවා. ඒ වෙනකොට විස ඇඟ දිගේ ගොඩාක් දුවලා. ඒ අම්මා සත්‍යක්‍රියා කලා, මහා කාරුණික බුදුරජාණන් වහන්සේ දේශනා කරන ලද උතුම් ශ්‍රී සද්ධර්මය ඒ ධර්මය බලවත් ගෞරවයකින් ශ්‍රවණය කලා, ඒක සත්‍යයක්. ඒ සත්‍යානුභාවයෙන් මගේ පුතාගේ ඇඟේ විස බසීවා. දේශකයන් වහන්සේ බණ පද දේශනා කරනකොට එක වචනයක් වත් මගහැරගන්නැතිව නුවණින් විමස විමසා මං බණ ඇහුවා රෑ එළිවෙනකල්, ඒක සත්‍යයක්. ඒ සත්‍යයේ අනුහසින් මගේ පුතාගේ ඇඟේ විස බසීවා. ඒ උතුම් ශ්‍රී සද්ධර්මය, මේ සම්බුද්ධ ශාසනය ලංකා ධරණීතලයේ පන්දහසක් කල් නොක්ම පවතිනවා කියන්නෙ සත්‍යයක්, ඒ සත්‍යයේ අනුහසින්

මාගේ පුත්‍රයාගේ ඇඟේ විස බැසයාවා. ආශ්චර්යයියි, අද්භූතයි ඒ ඇඟේ විස බැස ගියා. ඒ නිසා පින්වතුනේ අපි ධර්මය අහන්න ලැබීම ගැන අපිත් තේරුම් ගන්න ඕන ඔය විදියටයි. සද්ධර්මය කියලා කියන්නෙ කාන්තාරයකට වැටිච්චි වර්ෂාවක් වගේ. ඉතා දුර්වලවයි බණ පද අහන්න ලැබෙන්නෙ. ඒ දුර්ලභව අහන්න ලැබිච්චි බණ පදය, දැන් කාන්තාරයකට වැස්ස වහිනකොට ඒ කාන්තාරයේ හිරවෙච්චි මනුස්සයාට වැස්සේ වටිනාකම තේරෙන්න එපැයි. වැස්සේ වටිනාකමයි තේරෙන්න ඕන. මේක දුර්ලභ එකක්. මගේ ජීවිතයේ සැප හදාගන්න මට ලැබිච්චි එකක්. එහෙනම් සැපය හදාගන්න තමයි වෑයම් කරන්න ඕන. එහෙම තියෙද්දිත් ඇතැම් වෙලාවට අපිට දකින්න ලැබෙනවා, ධර්මය වරදවාගෙන ඉන්නවා. ධර්මය තමන්ගේ ජීවිතය සැපවත් කරගන්න නෙවෙයි ගන්නෙ. ධර්මයෙන් උඩඟු වෙනවා. එක්කො බණ පදයක් දෙකක් ඉගෙන ගෙන තමන්ට ඕන විදියට තමන් කැමැති විදියට නිර්වචනය කරගන්නවා, තමන්ගේ මතිමතාන්තර වලට ගැලපෙන විදියට. ඒක හරියට ඒ වගේ පුද්ගලයො ගැන අපිට හිතෙන්නෙ හරියට කාන්තාරෙක යද්දි වැස්සක් ඇදහැලිලා ඒ වැස්සෙන් ගංවතුරක් හැදිලා ඒ ගංවතුරට අහුවෙලා මැරෙනවා වගේ. හොඳට ධර්මය අහන්න ලැබිලත්, ඒ ධර්මය වරදවා ගැනීම නිසා ඒ තුළින් විනාශ වෙලා යනවා. කාන්තාරෙකට වැහැපු වැස්සක් නිසා ඒ වැස්සට විනාශ වෙලා කෙනෙක් මැරුණා වගේ. අන්න ඒ නිසා ධර්මය අහන්න ලැබිච්ච වෙලාවේ වටිනාකම තේරුම් අරගෙන මැනැවින් බණ ඇසිය යුත්තේය. දැන් මේ අමනුස්සයො තමයි බණ ඇහීමේ වටිනාකම මෙහෙම වර්ණනා කලේ. සුක්ඛා සුක්කේහි ධම්මෙහී වීතරාගා සමාහිතා ධාරේති අන්තිමං දේහං ජෙත්වා මාරං ස්වාහිනී, සුක්කා භික්ෂුණිය ඉන්නෙ කුසල් දහම් වලින් යුක්තවයි. ඇය වීතරාගියි. ඇයට තියෙනවා සමාහිත සිතක්. සේනා සහිත මාරයාව ඈ පරාජය කලා. දැන් ඇය දරාගෙන ඉන්නෙ අන්තිම සිරුරයි. ඔන්න ඔය විදියට එදා ඒ යක්ෂයා සුක්ඛා කියන උතුම් අර්හත් භික්ෂුණියව වර්ණනා කලා. ධර්මයෙන් උපන්න ඒ භික්ෂුණියව එදා අමනුස්සයෙක් ඔය විදියට වර්ණනා කලා, ඉතින් ඔය සුක්ඛා තෙරණිය කියලා කියන්නෙ ධර්ම කථික භික්ෂුණියක්නෙ. ඒ ධර්ම කථික භික්ෂුණිය නිසා පින්වතුනේ බොහෝ දෙනෙක් ජීවිතේ යහපත සළසාගත්තා. බණ පද ඉගෙන ගෙන, ඒ බණ දහම් පුරුදු කරලා තමන්ගේ ජීවිතේට යහපත හදාගන්න මිනිස්සු වාසනාවන්ත වුනා. ඒ නිසා අද වුනත් අපි මේ ඉගෙන ගත්ත කාරණා වලින් තේරුම් ගන්න ඕන අද වුනත් අපිට මුණගැහිලා තියෙන්නෙ කොයිතරම් වටින දෙයක් ද කියලා. බුදුරජාණන්

වහන්සේගේ සද්ධර්මය කියලා කියන්නෙ හරියට මේ සංසාරය කියලා කියන්නෙ මහා කාන්තාරයක් නම් ඒ කාන්තාරෙට කලාතුරකින් වැටෙන වැහි පොදක් වගේ. ඒ කලාතුරකින් වැටෙන වැහිපොද අපිට මුණගැහිලා. මුණගැහිච්ච වෙලාවේ ඒකෙ වටිනාකම අපිත් තේරුම් අරගන්නෙ නැත්නම්, ඒ මිනිස්සු ගැන තේරුම් ගන්න ඕන හරියට බීලා වෙච්ච අය වගේ. බීලා වෙරි වෙලා මත්වෙලා ඉන්න උදවිය වගේ. සිහියක් පතක් නැති උදවියක් වගේ තමයි මේ බණ පද වලට අවධානයක් යොමු කරන්නැති පාර්ශ්වය. ඒ කාරණය තේරුම් ගත්තු කෙනා වැඩ වැඩියෙන්ම කළ යුත්තේ ධර්මය ඇසීමයි. ධර්මය ඉගෙන ගැනීමයි. අපි අපේ ජීවිතයේ පින්වතුනි අපිට මනුස්සයෙක් විදියට උපදින්න ලැබිලා මේ ලංකාභූමියේ අපිට ලැබිච්ච ලොකුම ලාභය. ලොකුම ලාභය, අපිට තේරෙන විදියට බණ අහන්න ඉගෙන ගන්න ලැබීම අපිට තේරෙන විදියට අපිට යම් ජීවිතය ගැන වැටහීමක් ඇතිකරගත හැකි විදියට ධර්මය අහන්න ඉගෙන ගන්න ලැබීම අපි හිතමු ධර්මය කොච්චර කතා කලත් වැඩක් නෑනේ පින්වතුනි අපිට තේරෙන් නැත්නම්, අපිට මෙහෙම බණ පද වැඩක් නෑනෙ. අපි හිතමු ධර්ම දේශකයන් වහන්සේ නමක් ධර්මාසනයේ වාඩිවෙලා යමක් කියනවා. අපිට ගැඹුරුයි කියලා තේරෙනවා, හැබැයි අපිට මුකුත් තේරෙන් නෑ. ඉතින් ඒකෙන් අපිට ඇති වැඩේ මොකක්ද. ගැඹුරු එකක් කිව්වා, කිව්වෙ මොකක්ද කියලාවත් තේරෙන් නෑ, ඒ තරම් ගැඹුරුයි. ඒක මොන ආශ්වාදයක්ද. ඒක කිසි අර්ථයක් නැති එකක්. අපිට කියපු බණ පදය තේරෙනවා නම් අපේ ජීවිතය ගැන යම් වැටහීමක් එනවා නම් ඒක නේද වටින්නෙ. එයයි වටින්නෙ. දැන් අපිට මේ මෑත යුගයේ කල්‍යාණ මිත්‍රයෙක් හැබෑම සත්පුරුෂයෙක් මුණගැහිච්චි නිසා ලෝකෙට පහළවෙච්චි මහාසත්පුරුෂ රත්නය වන අපගේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ ලෝකයට දේශනා කලේ මොකක්ද කියන එක අපිට ඉතාම සරලව, සුගමව, පැහැදිලිව අහන්න, කියවන්න, ඉගෙන ගන්න අවකාශය ලැබුනා. කාන්තාරයක වැහි පොද වගේ. ඒ කාන්තාරයක වැහිපොද වගේ ලැබිච්ච මේ සද්ධර්මය අපි අපේ ජීවිතේ ගැන නුවණින් විමස විමසා ඉක්මණින් ධර්මය ගලපා ගන්න මහන්සි ගන්න ඕන. ජීවිතේ කියලා කියන්නෙ අවිනිශ්චිත එකක්. ජීවිතේ වේගයෙන් විනාශ වෙවී යනවා. අපි හැමදෙනාම පින්වතුනි මේ උපන්න ජීවිතේ එකම උරුමයක් අපි හැමදෙනාටම තියෙනවා. අපි නොයෙක් නොයෙක් රූප වලින් ඉපදිලා ඉන්නවා. නොයෙක් නොයෙක් කුලවල අපි ඉපදිලා ඉන්නවා. නොයෙක් පවුල් පැලැන්ති, අපේ වත්පොහොසත්කම් වලින් අපි වෙනයි. අපි ගත්තොත්

උගත් නූගත්කම් වලින් අපි වෙනයි. අපි කරන රැකී රක්ෂා වලින් වෙනයි. අපිට මේ වෙනස්කම් අපිට තියෙනවා, යම් යම් වෙනස්කම්. හැබැයි අපි හැමදෙනාම එක කරුණකදි පොදුයි. අපි නාකිවෙනවා. ඒකෙදි අපි පොදුයි. නාකිවීම කියන කාරණය පාට වශයෙන්, කුල වශයෙන් බෙදෙන් නෑ. නැවැත්විය නොහැකි, කිසිසේත් නැවැත්විය නොහැකි නාකිවීම කියලා එකක් අපිට තියෙනවා. ලෙඩදුක් උරුම කරගන්නවා කියලා එකක් අපිට තියෙනවා. මරණය කරා යනවා කියලා එකක් අපිට තියෙනවා. මේවා කොයි වේලේ දැන් වයසට යනවා කියන එකනම් අනුක්‍රමිකව වෙන එකක්. නමුත් අනිත් දෙක කොයිවෙලේ ලෙඩවෙයිද කියලා කියන්න බෑ. කොයිවෙලේ මරණය පැමිණෙයිද කියලා කියන්න බෑ, අවිනිශ්චිතයි. ඒ නිසා කාන්තාරයකට වැටිච්චි දියපොදක් වගේ මේ සද්ධර්මය අපිට ජීවිතයට ගන්න තියෙන්නෙ බොහොම ටික කාලයක්. ඒ කාලය කොයි මොහොතක කොතනක සිදුවී යයිද ඒ අවස්ථාව අපිට කෙසේ අහිමි වෙයිදි කියලා අපි කාටවත් කියන්න පුලුවන්කමක් ඇත්තෙ නෑ. ඒ නිසා හොදට ඒ කාරණය තේරුම් අරගෙන අපිත් අපේ ජීවිතයට ධර්මය ගලපාගන්නටයි මහන්සි ගත යුත්තේ. මේ ධර්මය තුළින් පරිපූර්ණ වශයෙන් ජීවිතය සැපවත් කරපු උත්තමාවියන්ගේ උතුමන්ගේ ජීවිත ගැන අහලා අපිත් අධිෂ්ටානයක් ඇතිකරගමු අපිත් ඒ උතුම් රහතන් වහන්සේලා හැසිරුණු උතුම් ශ්‍රී සද්ධර්මයේ හැසිරිලා ඒ අර්හත් උත්තමාවියන් පුරුදු කරපු උතුම් ශ්‍රී සද්ධර්මය පුරුදු කරලා අපිටත් මේ ගෞතම ශාසනය තුළ ඒ රහතුන් නිවී සැනසුනු අමා මහ නිවසේ සැනසෙන්න ලැබේවා, සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලු පින් සියලු දෙවියෝ සතුටු සිත් උපදවාගෙන අනුමෝදන් වෙත්වා. සක්දෙවිඳු, සතරවරම් දෙවිවරු, සෙන්පති දෙවිවරු ප්‍රධාන සියලු දෙවියෝ පින් අනුමෝදන් වෙලා දෙවියෝ දිව්‍ය සැපයෙන් වැඩේවා. ඒ දෙවියෝ අප හැමදෙනාටම දෙවියන්ගේ සියලු ආරක්ෂාව ආශිර්වාදය උපකාරය නොඅඩුවම සලසාදෙත්වා. දෙවියෝද සසර දුකින් අතමිදේවා, සාදු සාදු සාදු!!! අප හැමදෙනාගේ කල්‍යාණමිත්‍ර ගුරුදේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට පින් අනුමෝදන් වෙලා පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව නිරෝගීව දීර්ඝායුෂ ලබත්වා, ගෞතම ශාසනය තුළ උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරගනිත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අද ධර්ම දානය සිදු කරන පින්වතුන්ලාගේ නමින් 2019 ඔක්තෝම්බර් මාසෙ 29 වන දින මියපරලොව ගිය පින්වත් දයාරත්න රණතුංග පියාණන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. මියගිය

එල්.පී.එච්. පෙරේරා මැණියන්ට පින් අනුමෝදන් වෙත්වා. නමින් මියගියා වූ සියලු ඥාති හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන්ව ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනාව සිදු කරන්න. සුජීවත්ව සිටින පියසේන ලොකුහෙට්ටි පියාණන්ට චන්ද්‍රතිලක පියාණන්ට කරුණාසේන කෝට්ටේආරච්චි පියාණන්ට, දයා කොටපමුණ මැණියන්ට, හේමා රණවක මැණියන්ට සහ සුනන්දා වික්‍රමසිංහ මැණියන්ට යන ඒ පින්වතුන්ලාගේ ඥාති හිතෛෂී සියලු දෙනාට මේ සියලු පිනු අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. නිදුක් නිරෝගී සුව, දීර්ඝායුෂ සැළසෙත්වා. අකිඳ, හසරැල්, රිසිනු, නෙත්මි, සිතිමි යන ඒ දරුවන්ට මේ සියලු පින් අනුමෝදන් වෙලා ඒ දූදරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදිය සර්වප්‍රකාරයෙන් සාර්ථක කරගන්න ලැබේවා. ජීවිතයට යහපත සළසන සත්පුරුෂ ආශ්‍රය ඒ දරුවො හැමදෙනාට නොඅඩුවම සැළසෙත්වා. ධර්මදානය සිදු කරන ඒ ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික සාමාජිකාවන්ට, ඒ වගේම ශ්‍රද්ධා මාසික ධර්මදාන සාමාජික පින්වතුන්ලා සෑම සියලු දෙනාට මේ සියලු පින් අනුමෝදන් වෙලා සියලු දෙනාට සියලු යහපත අභිවෘද්ධිය වේවා, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ හැමදෙනාටත්, සුපින්වත් ඔබ සෑම සියලු දෙනාටමත් මේ ගෞතම ශාසනය තුළ සුවසේම ධර්මාවාබෝධ කරන්න වාසනාව ලැබේවා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=w4Kd7pHELwg

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද දවසේ ධර්මදේශනාවට දායකත්වය දරනු ලබන්නේ මිනුවන්ගොඩ මනෝජ් ඉලෙක්ට්‍රිකල් ආයතනයේ පින්වත්

මනොජ් ගයාන් වික්‍රමාරච්චි මහත්මා ඇතුළු ඒ පවුලේ පින්වත් හැමදෙනා විසින්. තමන්ගේ මියගිය ඥාතීන්ට පින් අනුමෝදන් කිරීම පිණිසත් සුජීවත්ව සිටින පවුලේ හැමදෙනාට සෙත් ප්‍රාර්ථනා කිරීම පිණිසත්, අද ධර්ම දානය මේ විදියට සිද්ධ කරනවා. ඒ අමා නිවන් දුටු රහත් තෙරණිවරු ගැනයි අපි ඉගෙන ගන්නෙ. අද දවසේ මේ අහන්න ලැබෙන දහම් කතාව බොහෝම සුන්දර එකක්. මේ ගෞතම ශාසනයේ හරිම අසිරිමත් ශ්‍රාවිකා රත්නයක්, සේලා අර්හත් උත්තමාවිය ගැනයි අද ඉගෙන ගන්නෙ. සේලා අර්හත් උත්තමාවියාගේ මේ චරිතාපදානය ආරම්භ වෙන්නෙ මීට කල්ප ලක්ෂයකට ඈත. අපේ අටුවා පොත් වහන්සේලාගේ ඒ උත්තමාවිය සම්බන්ධයෙන් විස්තර සඳහන් වෙන්නෙ කල්ප ලක්ෂයක ඉඳන්. මේ කල්ප ලක්ෂයකට පෙර ලෝකයේ පහළ වුනා පදුමුත්තර නම් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ. ඒ බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න යුගයේ ඈ හංසවතී නගරයේ එක්තරා නිවසක වාසය කරපු සාමාන්‍ය කාන්තාවක්. ඈ විවාහ ජීවිතයට පත්වුනා. විවාහ වුනාට පස්සෙ තරුණ වයසේම ඉන්නැද්දි ඇගේ ස්වාමියා හදිසියේ කාලක්‍රියා කලා. කොච්චරවත් ජීවිත වලට ඔය වගේ අවිනිශ්චිත අවස්ථා එළඹෙනවා. තරුණ වයසේ සිහින ගොඩාක් තියාගෙන යුග ජීවිත වලට එළඹෙනවා, අපි අපේ ජීවිතේ අද පටන් දෙන්නෙක් විදියට සැනසිල්ලේ ගතකරනවා කියලා. හැමෝම විවාහ ජීවිත වලට එළඹෙන්නේ ඔය අදහසින්නෙ. නමුත් ජීවිතේ කියන එකේ අවිනිශ්චිත දේවල් කොච්චර තියෙනවාද. කොච්චර තියෙනවාද ජීවිතයක අවිනිශ්චිත දේවල්. ඉතින් ඇයටත් මුහුණ දෙන්න සිද්ධ වුනේ අන්න එහෙම දෙයකට. ඈ තරුණ වයසේම ඇගේ ස්වාමිපුරුෂයා හදිසියේම කාලක්‍රියා කලා, ඇයට හරී සංවේගයක් හටගත්තා, හරී දුකක් හටගත්තා. ඒ දුක නසන්න, ඇගේ ප්‍රිය ස්වාමියා අහිමි වුනා කියන දුක නසන්න ඇයට තිබුනු ධනයට බැරිවුනා. ඇය වටේ හිටපු ඥාති පිරිවරට බැරිව ගියා. ඇගේ කාම සම්පත් වලට බැරිව ගියා. එතකොට ඈ දුක නැසිය හැකි දෙයක් හෙව්වා. අන්න එතකොට තමයි ඇයට බුදුරජාණන් වහන්සේගෙ ධර්මය හම්බවුනේ. ඉතින් ඒ ධර්මයෙන් ඇගේ හිත නිවෙනවා. දහම් පද අහගෙන ඉන්නකොට හිතට හරී සැපයි. ඇය කල්පනා කලා නිතර බණ අහන්න ඕන. ඉතින් මෙහෙම ධර්මය අහන්න යොමුවෙනකොට යොමුවෙනකොට දවසක් ඇයට අහන්න ලැබුනා බුදුවරුන්ගේ ආශ්චර්‍ය්‍ය අද්භූත කාරණා. සියලු සම්බුදුරජාණන් වහන්සේලාට තියෙනවානෙ අච්චරිය අබ්බූත. ඉතින් ඇයට මේ අච්චරිය අබ්බූත ගැන අහනකොට ඇයට වෙනම හිතක් උපන්නෙ. ඒ ආශ්චර්ය අබ්බූත කාරණා

අහනකොට ඇයට ඇතිවුනේ වෙනම හැඟීමක්. ඇයට සිතිවිල්ලක් උපන්නා මේ අසිරිය බලාගන්න. දවසක් අමාවක රාත්‍රියක- අමාවක කියලා කියන්නෙ තනිකරම කළුවර රෑනෙ. කළුවර රෑයේ ඇය යනවා භාග්‍යවතුන් වහන්සේගේ බෝරජාණන් වහන්සේ ළඟට. පදුමුත්තර බුදුරජාණන් වහන්සේගේ සම්බෝධියට සෙවණ දීපු බෝරජාණන් වහන්සේ ඒ කාලෙ දෙව් මිනිස්සුන්ගේ සත්කාර ලබමින් වැඩ හිටියා. ඇය අමාවක දවසේ බෝධීන් වහන්සේ ළඟට යනවා. බෝධීන් වහන්සේ වටේ පහන් දල්වලා වන්දනා මාන කරගන්න පුලුවන් විදියට තිබුනා. ඈ බෝධීන් වහන්සේ ළඟට ගිහින් හිතනවා සම්මා සම්බුදුරජාණන් වහන්සේලාගේ ආශ්චර්ය අද්භූත කාරණා තියෙන බව මට ධර්මයෙන් අහන්න ලැබුනා. මට  බලාගන්න ඕන අසිරියක්. හැබැවින්ම සම්මා සම්බුදුරජාණන් වහන්සේ ආශ්චර්යයී නම් ඒ අසිරිය මට මේ බෝරජාණන් වහන්සේගෙන් පෙනේවා. ඇය එහෙම හිතුවා. ඇය පින්වන්තයි අසිරියක් දකින්න තරම්. අසිරියක් දැක හිත පහදවාගන්න තරම් ඈට පිනක් තිබුනා. මේ මහා ඝන අන්ධකාරයේ අමාවක රෑයේ බෝධීන් වහන්සේ ඉතාම ලස්සන පාටින් බබළන්න පටන් ගත්තා. අමාවක රෑයේ නිසා ඒ බැබළීම හරි අගේට පෙනුනා, අන්න හිත පැහැදුනා. ඉදින් බලන්න ඇතැමෙක්ගේ හිත පහදින්නේ අසිරියක් දැකීමෙන්. අසිරිය දැකීමේදී ඇතැමෙක්ගේ හිත පහදියි, ඇතැමෙකුට සැක හිතෙයි. ඇයි එහෙම නැද්ද, මෑත කාලයේත් නොයෙක් අවස්ථාවල සම්බුදු අසිරිය පෙනුනා. සෑ රජාණන් වහන්සේලාගෙන් රශ්මිය විහිදුනා. පිළිම වහන්සේලාගෙන් රශ්මිය විහිදුනා. ඒ වගේ අසිරිමත් දේවල් සිදුවුනා. ඒ අසිරිමත් දේවල් සිද්ධ වෙනකොට කොටසකගේ හිත පහදිනවා අනේ සාදු සාදු සාදු, අප සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ අසිරිය නැත්නම් වෙන කොහෙද අසිරියක් කියලා හිත පහදිනවා. ඇතැමෙක් ඒකට සැක කරනවා. එතකොට බලන්න හිත පහදවගන්නවා කියන එකත් එහෙම බෙදී යනවා. හැමෝටම හිත පහදින් නෑ. හිත පහදින්නත් ඕන පිනක්. හිත පහදින්නත් තියෙන්න ඕන පිනක්. ඒ පින තිබ්බොත් එහෙම හිත පහදවාගැනීම කියන සුවිශාල පින රැස්කරගන්න වාසනාව ලැබෙනවා. ඉතින් පදුමුත්තර බුද්ධ ශාසනයේ ඔන්න අමාවක දවසේ බෝධීන් වහන්සේගේ අසිරිය දැකලා ඈ හිත පැහැදුනා. ඈ ධන සම්පත් තිබ්බ කෙනෙක්. ඒ නිසා බෝධීන් වහන්සේ උදෙසා ශාස්තෘන් වහන්සේගේ නමින් පුරා දින හතක් මහා බෝධිපූජාවක් කලා. පුරා දින හතක් බෝධීන් වහන්සේට සත්කාර පිණිස පූජාවල් කලා. නුවණැති මිනිස්සු, තෙරුවන කෙරෙහි පහන් වූ මිනිස්සු එහෙම කරනවා. තෙරුවන

කෙරෙහි පහන් හිතක් නැති කෙනෙක් නම් බෝධීන් වහන්සේ පුදනවා පෙනෙනකොට ඇයි මේ වෘක්ෂයකට වඳින්නේ, වෘක්ෂයකට වැඳලා මොන පිහිටක් ද මේ වගේ අමුතු තර්ක ගොඩ නගයි. සරණ නැති නිසා, ශ්‍රද්ධාව නැති නිසා. බලන්න ඇයට සරණ තිබුනා. ඈ පුරා දින හතක් මහා සත්කාර සහිත පූජාවක් බෝධීන් වහන්සේට කලා. එසේ කරපු සත්කාරයෙන් ඇයට මහා පුණ්‍ය සම්පත්තියක් රැස් වුනා. ඒ පින මරණින් මත්තෙ ඇයව අරගෙන ගියා දෙවියන් අතරට. මරණින් මත්තේ දෙවියන් අතරට අරගෙන යන්න ධනයට බෑ. මරණින් මත්තේ දෙවියන් අතරට අරගෙන යන්න අපි ඉගෙන ගත්තු උගත්කම් වලින් බෑ, අපිට තියෙන වත්පොහොසත්කම් වලින් බෑ. අපිට තියෙන සමාජ මට්ටමෙන් බෑ. හැබැයි අපි රැස් කරන පිනට පුලුවන්. අපි මනාකොට පිනක් රැස් කලොත් ඒ රැස් කරනා පින විසින් මෙහෙ මියයනකොට මරණින් මත්තෙ සුගතියට අරන් යන්නේය. බුදුරජාණන් වහන්සේ දේශනා කලේ චිරප්පවාසිං පුරිසං දූරතො සොත්තිමා ගතං - දුරු රටක සුවසේ වාසය කරපු කෙනෙක් ඒ කටයුතු අවසන් කොට යළි මව්රට එන්නේය. ඤාතිමිත්තා සුහජ්ජාච අභිනන්දං ත්‍යාගතං - එකල්හි ඤාතීන් හිතමිත්‍රයින් ඉතා සතුටින් ඔහුව පිළිගන්නට යන්නේය. තථෙව කතපුඤ්ඤං ප්‍රියස්මා ලෝකා පරං ගතං - ඔය අයුරින්ම යම් කෙනෙක් පින් රැස් කරගෙන, රැස් කල පින් ඇතුව පරලොව යන්නේද පුඤ්ඤානි පතිගන්හන්තු පියං ඤාති එවාගතං - ඔහුව පිළිගන්නට පින පැමිණෙන්නේ ප්‍රියමනාප ඤාතියෙකු සේය. බලන්න ලස්සන. පින රැස් කරගෙන තිබුනොත් ඒ රැකවරණය තිබේ. ඇයට ඒ රැකවරණය තිබුනා. ඇය මරණයෙන් මත්තෙ දෙවියන් අතරෙ උපන්නා. ඒ දෙවිවරුන්ගේ ඇසුරේදී ඇයට සත්පුරුෂයො හම්බවුනා. ඒ සත්පුරුෂ ඇසුරේ දෙව්ලොවදී ඇය බොහෝ පින් පිරුවා. ඉතින් එහෙම පින් පුරාගෙන පහළට වැටෙන්නේ නැතිව ඇය සුගතියේ රැකවරණයේ ආරක්ෂා වෙවී ආරක්ෂා වෙවී පැමිණිලා ඔන්න මේ බුද්ධ කාලයේ තිලෝගුරු අපගේ ගෞතම අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළවෙනකොට ඈ උපදිනවා අලවිනුවර අලව් රජ්ජුරුවන්ගේ දුව. ඇගේ නම සේලා. මේ සේලාව හරී ඤාණවන්තයි. තරුණ වයසට එනකොටම ඇට බුදු බණ අහන්න ලැබුනා. බුදු බණ අසද්දි ඇගේ සිත ධර්මයට පහන් වුනා. ගෘහ බන්ධන අත්හැරලා ඇය බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පැවිදි වුනා. පැවිදි වෙලා ඉතාම කෙටි කලයි, සියලු කෙලෙස් නසා අර්හත් උත්තමාවියක් බවට පත්වෙන්න ඇයට වාසනාව ලැබුනා. ඒ අර්හත් උත්තමාවියගේ ජීවිතේ හරි පුදුම සහගත සිද්ධියක් වුනා. ඒ සිද්ධිය නිසාම ඒ අර්හත් උත්තමාවියගේ

අසිරිය අපේ බණ පොත් වල සඳහන් වුනා. ඒක වුනේ මෙහෙම. දිනක් මේ සේලා භික්ෂුණිය සැවැත් නුවර ගත කරන කාලයේ විවේකයෙන් ගත කිරීම පිණිස අන්ධ වනයට වැඩම කලා. අන්ධ වනයේ ඇතුලටම ගිහිල්ලා ඒ උත්තමාවිය රුක් සෙවණක වාඩි වෙලා ඉන්නවා. සාමාන්‍යයෙන් පින්වතුනේ කාන්තාවො කියලා කියන්නෙ, ස්ත්‍රීන් කියලා කියන්නෙ ඉක්මණට බය වෙන පිරිසක්නෙ. තනිපංගලමේ ගමනක් යන්න, කළුවර රැයක ගමනක් යන්න ඇලාගේ හිත බයයි. එබඳු සුළුදේකටත් බයට පත්වෙන ස්ත්‍රියාවක් තමයි දැන් මේ ඒ කියන්නෙ සාමාන්‍යයෙන් බැලුවොත් ස්ත්‍රියාවක් තමයි මේ මහා ඝන වනාන්තරය මැද ඉන්නෙ. නමුත් මේ තුන්ලෝකයේ කිසිම අරමුණකින් බය කරවන්න බැරි හිතක් තියෙන කෙනෙක්. අර්හත් උත්තමාවියක්. ඉතින් අර්හත් උත්තමාවිය මේ හුදෙකලා වනයේ තනිපංගලමේ රුක් සෙවණක වාඩිවෙලා ඉන්නකොට පව්ටු මාරයාට මෙහෙම හිතක් උපදිනවා. සේලා භික්ෂුණියව මං බය කරවන්නට ඕන. ඇව තැතිගන්වන්නට ඕන, ඇගේ ඇඟේ මවිල් කෙලින් කරවන්නට ඕන, ඇව මේ සමාධියෙන් දුරු කරවන්නට ඕන කියලා මාරයාට හිතක් උපන්නා. මාරයා මෙහෙම හිතකින් සේලා භික්ෂුණිය තනිපංගලමේ ඉද්දි සේලා භික්ෂුණිය ඉස්සරහට ගිහින් කියනවා නත්ථි නිස්සරණං ලෝකෙ කිං විවේකේන කාහසි බුඤ්ජාහි කාමරතියෝ මාහු පච්ඡානු තාපිනෙ, ඇට කියනවා මේ ලෝකයේ නිවන කියලා දෙයක් නෑ, ඒ නිසා ඔයා මොකද මේ හුදෙකලාවේ විවේකයෙන් ඉන්නෙ කැලයක් අස්සට ඇවිල්ලා. ගිහින් කාම සම්පත් අනුභව කරන්න, පස්සේ ඒ ගැන ඔයා දුක් වෙන්න එපා කිව්වා. දැන් මේ ගිහි ජීවිතය ගත කරනකොට යුග දිවියකටවත් එළඹිච්චි නැති තරුණ ස්ත්‍රියක්නෙ. මාරයා ඒ නිසා ඇයට කියනවා ගිහින් කාම සම්පත් භුක්ති විඳින්න මේ තරුණ වයසෙ. පස්සෙ ඔය ගැන දුක්වෙන්න නම් එපා. මෙහෙම ඇගේ ජීවිතය සම්පූර්ණයෙන්ම පැවිද්දෙන් පහළට හෙළන විදියේ වචන දැන් ඇයට අහන්න ලැබෙනවා. එතකොට මේ සේලා නම් වූ අර්හත් උත්තමාවිය මෙහෙම කල්පනා කලා, මේ වගේ වචන කියන්න, මා උදෙසා මේ වගේ වචන කියන්න මේ කවුද? සේලා භික්ෂුණිය අවධානය යොමු කරනවා මෙයා මනුස්සයෙක්ද, අමනුස්සයෙක්ද, මොකෙක්ද මේ? ඈ නුවණින් බලනකොට අර්හත් උත්තමාවිය දකිනවා මේ ඉන්නෙ පාපී මාරයා. එහෙම දැකලා ඒ උත්තමාවිය තමන් වහන්සේ අවබෝධ කරපු අර්ථය මේ විදියට වදාළා. සත්තී සූලූපමා කාමා කන්දාසං අධෙකුට්ඨනා යං ත්වං කාමරතිං රූසී අරති දානි සා මම - ඒයි මාරය මේ කාමයන් කියන්නෙ විස පොවාපු ආයුධ වගේ දෙයක්.

පඤ්චුපාදානස්කන්ධ කියන්නෙ මස් වැදලි වගේ දෙයක්. ඔබ ඒ කැමතියි කියලා කියපු දේ මට නම් අරතියක්මයි. මාරයා කිව්වෙ කාමයෙන් සතුටු වෙන්න කියලානෙ. ඇය කියනවා මේ කාමයන් ගැන මට නම් තේරෙන්නෙ විස පොවාපු ආයුධ වගේ. විස පොවාපු ආයුධ පරිහරණය කරන්න ගියොත් ඒ ආයුධයේ තියෙන විස සිරුරට කාවදිනවා. විස පොවාපු ආයුධයකින් පහර කෑවොත් ඒ විස මේ ශරීරය පුරාම දුවනවා. අවසානයේ බොහෝ දුක් විඳලා, බොහෝ දුක් විඳලා විඳලා මැරෙන්න වෙනවා. කාමයන් එක්ක ඇලෙන්න ගියොත්, කාමයන් එක්ක සන්තර්පණය වෙන්න ගියොත් කාමයම පතන්න ගියොත් අවසානයේ සිද්ධ වෙන්නෙ ඒක. විස හුලකින් පහර කෑවා වගේ, මොකද මේ කාමයන් පරිභෝග කරනකං ලාමක ආශ්වාදයක් කාමය තුළ තියෙනවා. නමුත් කාමය කියලා කියන්නෙ පින්වතුනි අස්ථිර එකක්, රැකවරණයක් නැති එකක්, අහිමි වෙලා යන එකක්. ඒ අහිමි වී යන සැබෑ රැකවරණයක් නැති, අස්ථිර වූ කාමය යම්කලෙක අහිමි වෙනකොට උහුලා ගන්න බැරිව යනවා. හුලකින් පහර කෑවට වඩා, විසක් කැවුනට වඩා වේදනයි. අයියෝ මං ආදරේ කරන ඒවා මට අහිමි වෙනවා. මම ආදරය කරන අය මට අහිමි වෙනවා. කොච්චර ආරෝධනා වැළපිලි මෙහෙම තියෙනවාද. මෙම වැළපිලි සියල්ලටම හේතුව මොකක්ද, කාමයමයි. කාමය නිසාමයි සියලු වැළපිලි. කාමය නිසාමයි සියලු දුක්ගිනි. කාමයන්ට මුසපත් වූ මනුස්සයාට තමා හිතාගෙන පතාගෙන ඉන්න, තමන් සුන්දර යැයි හිතාගෙන ඉන්න කාමයෝ අහිමි වෙනකොට උහුලාගත නොහැකි දුක් හටගන්නේය. පඤ්චුපාදානස්කන්ධ කියන්නෙ මස් වැදලි වගේ දෙයක්. ඒකෙ සාරයක් නෑ. ඔබ ඒ කැමැතියි කියලා කියපු ඒ දේ මට නම් අරතියක්මයි. කැමැත්තට කියනවා රති, අකමැත්තට කියනවා අරති. ඔබ යම්දේකට කිව්වාද තරුණ කාලෙ අවසන් වෙන්න කලින් ගිහිල්ලා සුවසේ විඳින්න කියලා, මාරය ඔබ ඒ කැමැති වෙලා ඉන්න දේ මට නම් අරතියක්මයි කිව්වා. සබ්බත්ථ විහතා නන්දි තමුක්ඛන්ධො පධාරිතො ඒවං ජානාහි පාපිම නිහතො ත්වමසෙ අන්තකා - ඒ හැමදෙයක් ගැනම තිබුනු ආසාව මං නැති කරලා දැම්මා. අවිද්‍යා අන්ධකාර කෙලෙස් කඳ පලාදැම්මා. මාරය, එහෙනම් මං ගැන දැනගන්න ඔය කාරණයෙන් නැසී ගියේ ඔබයි. ඒ අර්හත් උත්තමාවිය කියනවා මාරය දැනගන්න මං ගැන, ඔහේ මේ මට කාරණා කියන්න ඇවිල්ලා මාව මේ බ්‍රහ්මචරියාවෙන් චුත කරවන්න ඇවිල්ලා නැසුනේ ඔබයි. මට කිසිවක් කරන්න ඔබට බෑ, හේතුව මොකක්ද. හැමදෙයක් කෙරෙහිම තිබුනු ආසාව මං නැති කරලා දැම්මා, තෘෂ්ණාව නැසුවා. කිසිම දෙයක් ගැන දැන් තෘෂ්ණා සිතක් නෑ.

අවිද්‍යා අන්ධකාර කෙලෙස් කඳ පලාදැම්මා. අවිද්‍යාව කියන මහා ඝන අඳුර චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ නොවීම කියන එක ඒ මහා අවිද්‍යාව මං දුරු කලා. ඔය කාරණයේදී ඔබයි නැසී ගියේ. එතකොට මාරයා තව ප්‍රශ්න අහනවා. මොනවද මාරයා අහන ප්‍රශ්න. කේනිදං පකතං බිම්බං ක්වන්නු බිම්බස්ස භාරකො ක්වන්නු බිම්බං සමුප්පන්නං ක්වන්නු බිම්බං නිරුජ්ජති කියලා ඔහොම ගාථාවක් මාරයත් කිව්වා. මොකක්ද මේ ගාථාව. කේනිධං පකතං බිම්බං - මේ ජීවිතය නම් වූ මූර්තිය බිම්බ කියලා කියන්නෙ මූර්තිය, ප්‍රතිමාව. ඒ ප්‍රතිමාව කියන අදහස මාරයා විසින් යොදවාපු එකක්. ජීවිතය නම් වූ නිර්මාණය. එහෙම නැත්නම් ජීවිතය නම් වූ මූර්තිය කවුරු විසින් ද කලේ. මේ ජීවිතය නිර්මාණය කලේ කවුද. ක්වන්නු බිම්බස්ස කාරකො - මේ ජීවිතය නම් වූ නිර්මාණය, මූර්තිය කරවන කෙනා කවුද. ක්වන්නු බිම්බං සමුප්පන්නං - එහෙම නැත්නම් මේ ජීවිතය නම් වූ මූර්තිය හටගෙන තියෙන්නෙ කුමකින්ද. ක්වන්නු බිම්බං නිරුජ්ඣති - ජීවිතය නම් වූ මූර්තිය මේ නිර්මාණය අවසන් වෙන්නේ කෙසේද. බලන්න වසවර්ති මාරයා ඇසූ ප්‍රශ්න. මේ ප්‍රශ්න ඇහුවේ අර්හත් උත්තමාවියගේ අවබෝධය ගැන නොදැනයි. ඒ අර්හත් උත්තමාවිය මේ ප්‍රශ්න වලට පුදුම ලස්සනයි උත්තර දීපු විදිය. ඇත්තෙන්ම පින්වතුනි ඒ ජීවිතාවබෝධය, ජීවිතය ගැන ඒ තියෙන අවබෝධය, බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මයෙන්මයි ලැබෙන්නෙ. බුදුසරණ ලැබූ නිවනින් සැනසුනු උත්තමාවියක් ජීවිතය ගැන වදාළ දේ. නයිදං අත්ථ කතං බිම්බං නයිදං පරකතං නගං හේතුං පටිච්ච සම්භූතං හේතු භංගා නිරුජ්ඣති - මාරය මේක තමා විසින් කරපු ජීවිතයක් නෙවෙයි. මේ දුක් අනුන් විසින් කරපු දේකුත් නෙවෙයි. අග්ග කියලා කිව්වේ දුක් ගොඩට. මේ ජීවිතය කියන දුක් ගොඩ අනුන් කරලාත් නෙවෙයි. හේතුං පටිච්ච සම්භූතං - මේවා හටගන්න හේතු තියෙනවා, ඒ හේතු කාරණා ඇතිවයි මේක හටගත්තෙ. හේතු භංගා නිරුජ්ඣති - හේතූන් භංග වූ කල්හි, හේතූන් නැසී ගිය කල්හි මේ ජීවිතය නම් වූ නිර්මාණය, මූර්තියත් නැතිවී යන්නේය. ලස්සනට අර්ථය තේරුවා. බලන්න පින්වතුනි මේ ජීවිතය ගැන තියෙන අනවබෝධය. දැන් මේ ලෝකයේ තියෙන්නෙ, වැඩිපුර තියෙන්නෙ අනවබෝධය. ඒ අනවබෝධයත් එක්ක ගත්තහම ජීවිතය ඇතුලේ මහා දුක් ගිනි විඳව විඳවා මේ ලද ජීවිතය අපි ගත කරනකොට කීදෙනෙක් ඉන්නවාද තමන්ම තමන්ට සාප කරගන්න. ජීවිතය ඇතුලේ මේ ජීවිතය ගත කරනකොට නොයෙක් දුක් ගැහැට විඳින්න සිද්ධ වෙනවානෙ. ඒ නොයෙක් දුක්ගැහැට අතරේ අපි හිතමු සමහර වෙලාවට ප්‍රිය අය වෙන්වී යනවා. අප්‍රිය අමනාප

කාරණා වලට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. එහෙම සිද්ධ වෙනකොට කීදෙනෙක් ඉන්නවාද තමන්ම සාප කරගන්න. ඔන්න තරුණ වයසේදී ස්ත්‍රියක් විවාහ ජීවිතයට පත්වුනාම අපි හිතමු ඒ ස්ත්‍රියගේ ආදර ස්වාමිපුරුෂයා තරුණ වයසේදීම මිය යනවා. එහෙම නැත්නම් ඇගේ දරු පැටව් තරුණ වයසේදීම මිය යනවා. එතකොට කාන්තාවො නැද්ද තමන්ටම සාප කරගන්න. මගේ කාලකණ්ණිකම. මගේ කාලකණ්ණිකම නිසයි මේවා ඔක්කොම වෙන්නෙ. එහෙම කිය කිය සුසුම් හෙලන පිච්චි පිච්චි ජීවත් වෙන ජීවිත නැද්ද. අන්න එතකොට එයා ගන්නෙ මේ ඔක්කොම මං කරපුවා. මේ ඔක්කොම මං නිසා. එහෙම ගන්න එකක් තියෙනවා. අනවබෝධය. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළ මේ ධර්මය අර්හත් උත්තමාවිය පහදනවා මේ දුක් අනුන් විසින් කරපු දේකුත් නෙවෙයි. මේ ජීවිතය ඇතුලේ නාකිවීම කියලා එකක් තියෙනවා. නොයෙක් ලෙඩරෝග වැළඳීම කියලා එකක් තියෙනවා. මරණය කියලා එකක් තියෙනවා. ප්‍රිය අයගෙන් වෙන්වීම කියලා එක්ක තියෙනවා. අප්‍රිය අමනාප අයත් එක්ක එකතු වෙනවා කියලා එක්ක තියෙනවා. ශෝකය තියෙනවා, වැළපීම තියෙනවා, දුක, ශෝකය, සුසුම් හෙලීම මේ ඔක්කොම තියෙනවා. මේ මහා දුක් කන්දරාව, මේ දුක් ගොඩකින් නිර්මාණය වෙච්චි ජීවිතය අනුන් කරපු එකකුත් නෙවෙයි කියනවා. සාමාන්‍යයෙන් ගොඩාක් ආගමික ශාස්තෘන් වරුන්ගේ ඉගැන්වීම් වල තියෙන්නෙ මේක අනුන් කරපු එකක් කියලා, එක්කො සර්වබලධාරී දෙවියෙක්, එක්කො මොකක්හරි අද්භූත බලවේගයක් තමයි මේ ඔක්කොම කරලා තියෙන්නෙ. මේ ඔක්කොම කලේ එහෙම කෙනෙක් කියලා කොච්චර තියෙනවාද. මේ ලෝකෙ බහුතරයක් ඒ වගේ මත වල හිරවෙලා, මේ දුක අනුන් කලේ, අනුන් කරපු නිසා ඒ කෙනාව කොහොමහරි යාඥා කරලා, යාදිනි කරලා, පුදපූජා කරලා එයාව ෂේප් එකේ තියාගන්න ඕන කියන අදහසක් තමයි බොහෝ මත වල තියෙන්නෙ. දැන් ඔය නැකැත් ශාස්ත්‍ර වල ආදිය ගත්තොත්, ලංකාවේ මේ මෙච්චර බුද්ධ ශාසනය තියෙන රටේ මෙච්චර සත්‍ය වූ ධර්මය කතා කරන රටෙත් හිතාගෙන ඉන්නවා මේ ප්‍රශ්න ඔක්කොම අපිට දෙන්නෙ ග්‍රහයො. ග්‍රහයො නව දෙනෙක් ඉන්නවා, ග්‍රහයන්ව සතුටු කර කර තියන්න ඕන කියලා පළතුරු වට්ටි උස්සගෙන යන්නැද්ද. ගිහිල්ලා මේ පළතුරු වට්ටියකින් අන්නාසි ගෙඩියක්, කෙහෙල් ගෙඩියක් දීලා ග්‍රහයෝ සතුටු කරගෙන තියාගෙන ඉන්නවා. ඉතින් ඒ වගේ නොයෙක් දේවල් තියෙනවා. ඒ ඔක්කොම මිත්‍යාව, ඒ ඔක්කොම වැරදි මං. වැරදිලා ජීවිතේ. ජීවිතේ සම්පූර්ණයෙන්ම අවබෝධ කරපු අර්හත් උත්තමාවිය දේශනා කරනවා මේ දුක්

අනුන් විසින් කරපු එකකුත් නෙවෙයි. එහෙනම් මේකෙ තමන්ට සාප කරලා ඇති වැඩකුත් නෑ, අනුන්ට ගරහලා ඇති වැඩකුත් නෑ. අඳුනගන්න ඕන ඇත්ත. හේතුං පටිච්ච සම්භූතං - හේතු නිසා හටගන්නවා, හේතු භංගා නිරුජ්ඣති - හේතු නැසුනු කල්හි නැසී යනවා. මේකට කියනවා ආර්ය න්‍යාය. බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ සම්බුද්ධ ශාසනයේ ආර්ය න්‍යාය. ඉති ඉමස්මිං සති ඉධං හොති - මෙය ඇති කල්හි මෙය වන්නේය. ඉමස්මිං ඉමස්ස උප්පාදා ඉධං උපපජ්ඣති - මෙය උපන් කල්හි මෙය උපදින්නේය. මේක ආර්ය න්‍යායට අයිති එකක්. මේ ආර්ය න්‍යාය අපි කොහොමද ගලපා බලන්නෙ, අවිද්‍යාව ඇති කල්හි සංස්කාර වේ. අවිද්‍යාව ඉපදීමෙන් සංස්කාර උපදී. ඔය විදියට පටිච්ච සමුප්පාද ක්‍රියාවලිය බුදුරජාණන් වහන්සේ හරී ලස්සනට වදාළා කොහොමද දුක හටගන්නෙ. අවිද්‍යා පච්චයා සංකාරා - අවිද්‍යාව හේතු කරගෙන සංස්කාර හටගන්නවා. සංකාර පච්චයා විඤ්ඤාණං - සංස්කාර නිසා විඤ්ඤාණය හටගන්නවා, විඤ්ඤාණ ක්‍රියාවලිය. විඤ්ඤාණ පච්චයා නාමරූපං - විඤ්ඤාණ ක්‍රියාවලිය හටගත් කල්හි නාමරූප ක්‍රියාවලිය හටගන්නවා. නාමරූප පච්චයා සලායතනං - නාමරූප හේතු කරගෙන ආයතන හයක් උපදිනවා, ඇස කණ නාසය දිව කය මනස. සලායතන පච්චයා පස්සො - ආයතන හය හටගැනීම නිසා ස්පර්ශය හටගන්නවා. පස්ස පච්චයා වේදනා - ස්පර්ශය හේතු කරගෙන විඳීම් හටගන්නවා. වේදනා පච්චයා තණ්හා - විඳීම නිසා තණ්හාව හටගන්නවා. තණ්හා පච්චයා උපාදානං - තෘෂ්ණාව හේතු කරගෙන, තණ්හාව හේතු කරගෙන ග්‍රහණය වීම, උපාදානය හටගන්නවා. උපාදාන පච්චයා භවො - උපාදානය හේතු කරගෙන භවය හටගන්නවා, එහෙම නැත්නම් විපාක පිණිස කර්ම සකස් වෙනවා. භව පච්චයා ජාති - විපාක පිණිස කර්ම සකස් වෙන පිළිවෙල මුල් කරගෙන ඉපදීම සිද්ධ වෙනවා. ජාති පච්චයා - ඉපදීම හටගත් කල්හි, ජරා මරණ ශෝක වැළපීම් දුක් දොම්නස් සුසුම් හෙළීම් හටගන්නවා. එවමෙතස්ස කේවලස්ස දුක්ඛකන්ධස්ස සමුදයො හොති, ඔන්න ඔය විදියට තමයි මුලු මහත් දුක්ස්කන්ධයම හටගෙන තියෙන්නෙ. ඔක තමයි හේතු තියෙද්දි මේ ජීවිතය නම් වූ දුක්ඛිත මූර්තිය තියෙන හැටි. මේක දිගින් දිගට, දිගින් දිගට සකස් වෙන්නෙ ඔය පිළිවෙලට. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා නිරුද්ධ වීමේ ක්‍රියාවලිය. භංගවීම. හේතු භංග වෙනවා කියන්නෙ මොකක්ද? ඉති ඉමස්මිං අසති ඉධං නො හොති - මෙය නැති කල්හි මෙය නැත්තේය. ඉමස්ස නිරෝධා ඉධං නිරුජ්ඣති - මෙය නිරුද්ධ වූ කල්හි මෙය නිරුද්ධ වන්නේය. මේක තමයි ආර්ය න්‍යාය. ඒ කොහොමද සිද්ධ වෙන්නෙ?

අවිජ්ජායායත්වෙව අසෙස් විරාග නිරෝධා - අවිද්‍යාව චුට්ටක්වත් ඉතුරු නැතිව නිරුද්ධ වීමෙන්, සංකාර නිරෝධො - සංස්කාර නිරුද්ධ වන්නේය. සංකාර නිරෝධා විඤ්ඤාණ නිරෝධො - සංස්කාර නිරුද්ධ වූ කල්හි විඤ්ඤාණය නිරුද්ධ වන්නේය. විඤ්ඤාණ නිරෝධා නාමරූප නිරෝධො - විඤ්ඤාණය නිරුද්ධ වූ විට නාමරූප නිරුද්ධ වන්නේය. නාමරූප නිරෝධා සළායතන නිරෝධො - නාමරූප නිරුද්ධ වූ විට ආයතන හය නිරුද්ධ වන්නේය. සළායතන නිරෝධා ඵස්ස නිරෝධො - ආයතන හය නිරුද්ධ වීමෙන් ස්පර්ශ ක්‍රියාවලිය නිරුද්ධ වන්නේය. ඵස්ස නිරෝධා වේදනා නිරෝධො - ස්පර්ශය නිරුද්ධ වීමෙන් විඳීම් නිරුද්ධ වන්නේය. වේදනා නිරෝධා තණ්හා නිරෝධො - විඳුම් නිරුද්ධ වීමෙන් තණ්හාව නිරුද්ධ වන්නේය. තණ්හාව නිරුද්ධ වීමෙන් උපාදාන නිරෝධෝ - උපාදාන නිරුද්ධ වන්නේය. උපාදාන නිරෝධා භව නිරෝධො - උපාදානය හෙවත් ග්‍රහණය නිරුද්ධ වී යාමෙන් විපාක පිණිස කර්ම සකස් වීම නිරුද්ධ වන්නේය. භව නිරෝධා ජාති නිරෝධෝ - ඒ භවය නිරුද්ධ වූ කල්හි ඉපදීම නම් වූ කරුණ නිරුද්ධ වන්නේය. ඉපදීම නිරුද්ධ වූයේ නම් ජරා මරණ සෝක වැළපීම් දුක් දොම්නස් සුසුම් හෙළීම් කියන දුක් රැසම නිරුද්ධ වුනා. කාමයෙන් තමයි මේක සිද්ධ වෙන්නෙ. ඉතින් මේ අර්හත් උත්තමාවිය තවදුරටත් කියලා දෙනවා, යථා අඤ්ඤතරං බීජං කෙතේ වුත්තං විරූහති පඨවි රසංච ආගම්ම සිනේහංච තදූභයං - කුඹුරක වපුරපු යම් බීජයක් වතුරත් පෘථිවි රසත් කියන දෙක නිසා වැඩෙනවාද, කුඹුරක යම් බීජයක් හිටෙව්වාම ඒ බීජය වැඩෙන්න නම් පෘථිවි රස කියන්නෙ පෘථිවි සාරය. පොළොවේ තියෙන සාරය ඕන. ඊළඟට තෙතමනය උදෙසා වතුර ඕන. පෘථිවි සාරයත් හොඳට තියෙනවා නම්, වතුර ටිකත් හොඳට තියෙනවා නම් අර කුඹුරේ හිටවපු බීජය වැඩෙන්න පටන් ගන්නවා. ඒවං කන්දාච ධාතුයො චචආයතනා ඉමෙ හේතුං පටිච්ච සම්භූතා හේතු භංගා නිරුජ්ඣරෙ - ඔන්න ඔය විදියමයි, මේ ස්කන්ධ ධාතු ආයතන හේතු හින්දාමයි හටගන්නෙ. හේතුව බිඳී යාමෙන් ඒ ඔක්කොම දේවල් නිරුද්ධ වෙලා යනවා. මේ හැමදේම හේතු නිසා හටගත්තු දේවල්. ස්කන්ධ යම් තාක් ඇත්ද, ඒ ස්කන්ධ සියල්ල හටගෙන තියෙන්නෙ හේතු නිසා. රූපස්කන්ධය හටගත්තේ හේතු නිසා. වේදනා ස්කන්ධය හටගත්තෙ හේතු නිසා. සංඥා ස්කන්ධය හටගත්තේ හේතු නිසා. සංස්කාර ස්කන්ධය හටගත්තෙ හේතු නිසා. විඤ්ඤාණ ස්කන්ධය හටගත්තෙ හේතු නිසා. මේවා හේතුවක් නිසා තමයි පවතින්නෙ. හේතුවක් නිසා පවතින දේට පිළියමක් තියෙනවා හේතු භංග කිරීමෙන් හේතු නසාදැමීමෙන් ඵලය ද නැසිය

හැක්කේය. හේතු නැසීමෙන් ඵල නැසී යන්නේය. ස්කන්ධ ධාතු ආයතන කියලා හැඳින්වූයේ කුමක්ද? මේ ජීවිතය. මේ ජීවිතය පටිච්ච සමුප්පාද විදියට හඳුන්වන්න පුලුවන්. මේ ජීවිතය ස්කන්ධ විදියට හඳුන්වන්න පුලුවන්. මේ ජීවිතය ධාතු විදියට පඨවි ධාතු, ආපෝ ධාතු, තේජෝ ධාතු, වායෝ ධාතු, ආකාස ධාතු, විඤ්ඤාණ ධාතු කියලා ධාතු හයක් ඔස්සේ මේ ජීවිතය හඳුන්වන්න පුලුවන්. ඒ ධාතු හයත් හටගත්තෙ හේතු ප්‍රත්‍යයෙන්මයි. ඊළඟට මේ ආයතනයෝ යම් මේ ආධ්‍යාත්ම ආයතන වේද, යම් ඒ බාහිර ආයතන වේද ඒ සියල්ල හටගත්තේත් හේතූන් නිසා. ආධ්‍යාත්ම ආයතන කිව්වා තමා යැයි සලකන ඇස, කණ, නාසය, දිව, කය, මනස. බාහිර ආයතන කියන්නෙ තමන්ගෙන් බාහිර යැයි සළකන රූප, ශබ්ද, ගන්ධ, රස, පහස, ස්පර්ශ එහෙම නැත්නම් අරමුණු. මේ හැමදෙයක්ම හටගෙන තියෙන්නෙ හේතූන්ගෙන්. හේතූන්ගෙන් හටගත්ත නිසා හේතු නිරුද්ධ කිරීමෙන් නිරුද්ධ වී යන්නේය. මේක තමයි භාග්‍යවතුන් වහන්සේගේ සද්ධර්මය තුළ බුදුරජාණන් වහන්සේ මේ ලෝකයට කියා දීපු සත්‍ය දේ. භාග්‍යවතුන් වහන්සේ මේ සත්‍ය දේ කියානොදෙන්න පින්වතුනේ, මේ ලෝකෙ කිසිවෙක් මේ සත්‍යය කියාදෙන්න හිටියෙ නෑ. ඒ නිසා මේ සත්‍ය වූ කාරණාව මේ ලෝකයේ සැඟවී තිබ්ච්චි එකක්. තථාගත බුදුරජාණන් වහන්සේගේ ස්වයංභූ ඥාණයෙන් තමයි මේ කාරණය ඉස්මතු කරලා බුදුරජාණන් වහන්සේ වදාළේ. අපි ගත්තොත් එහෙම උපතිස්ස කෝලිත තරුණයො කියලා කියන්නෙ බොහොම ඥාණවන්ත තරුණයො දෙන්නෙක්. කොතරම් ඥාණවන්තයොද කියලා කියන්නෙ උපතිස්ස තරුණයා කියලා කියන්නෙ බුද්ධ ශාසනයේ සාරිපුත්ත මහරහතන් වහන්සේ බවට පත්වුනාම ප්‍රඥාවෙන් අග්‍රේශ්වර භාවයට පත්වෙච්චි කෙනෙක්. ප්‍රඥාවෙන් අගපත් වුනා. අග තනතුරු ලැබුවානෙ. අග තනතුරු ලැබුවා අපේ සාරිපුත්ත මහරහතන් වහන්සේ. එතකොට උන්වහන්සේට තිබ්බා මහා ප්‍රඥාවක්. හැබැයි ඒ මහා ප්‍රඥාව තිබුනාට උන්වහන්සේට තිබුනේ නෑ ස්වයංභූ ප්‍රඥාවක්. තමන් වහන්සේටම අවබෝධ කරන්න හැකියාවක් තිබුන් නෑ, බුදුරජාණන් වහන්සේ අවබෝධයෙන් දේශනා කරපු ධර්මය යම් මොහොතක අහන්න ලැබුනාද, ඒ අහන්න ලැබිච්චි ගමන් අර ප්‍රඥාව වැඩ කලා. ඒක අහන්න ලැබිච්ච ගමන් ප්‍රඥාව වැඩ කලා. අහන්න ලැබුනේ මේ හේතු ඵල ක්‍රියාවලිය. අස්සජි මහරහතන් වහන්සේ කියාදුන්නේ යේ ධම්මා හේතුප්පභවා තේසං හේතු තථාගතො ආහ තේසං ච යො නිරොධො එවං වාදි මහා සමණො - ඒ මහා සමණ වූ බුදුරජාණන් වහන්සේ ව දාරන්නෙ හේතු ඵල ක්‍රියාවලියක්. හේතු

ඇතිකල්හි ඵලය වන්නේය හේතු නිරුද්ධ වීමෙන් ඵලය නිරුද්ධ වන්නේය කියන කාරණාවයි බුදුවරු දේශනා කරන්නෙ කියලා කියනකොට මේක අහුවුනානෙ. ඒ මොහොතේම ධර්මාවබෝධ කලා, සෝතාපන්න ආර්ය ශ්‍රාවක භාවයට පත්වුනා. ඉතින් ඒ නිසාමයි ජීවිතය ගැන ප්‍රඥාව ලැබෙන්න නම් පින්වතුනි, ජීවිතය අවබෝධ කරන ප්‍රඥාව ලැබෙන්න නම් බුදුරජාණන් වහන්සේගේ ධර්මයමයි අහන්න ඕන. බුදුරජාණන් වහන්සේගෙන් ඒකනෙ කෙනෙක් විමසුවාම භාග්‍යවතුන් වහන්සේ පිළිතුරු දුන්නෙ. කෙනෙක් විමසුවා, ස්වාමීනී මේ ප්‍රඥාව කියන දේ හැබෑවටම ජීවිතේ අවබෝධ කරන්න උවමනා කරන ප්‍රඥාව කියන දේ කොහොමද ලැබෙන්නෙ? බුදුරජාණන් වහන්සේ වදාළේ, සද්ධානො අරහතං ධම්මං නිබ්බාණ පත්තියා - නිවනට කැඳවන ධර්මය රහතුන් කියාදෙනවා. ඒ රහතුන් නිවනට කැඳවන ධර්මය කියාදෙන කල්හි, සුස්සූවසා - හොඳ ආසාවෙන් ඒ ධර්මය කන් යොමාගෙන අහන්න ඕන. අප්පමත්තො විචක්ඛණො - ප්‍රමාද නොවී ඒ ධර්මය විමසන්නටත් ඕන. එකල්හි, ලබතේ පඤ්ඤං - ප්‍රඥාව ලැබේ. බුදුරජාණන් වහන්සේ වදාළේ ඒ විදියට. එතකොට මේ බුද්ධ ශාසනයේ ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ මේ බුදු සසුනේ ප්‍රඥාවෙන් අග්‍ර භාවයට පත්වෙච්චි උත්තමයා අපේ සාරිපුත්ත මහරහතන් වහන්සේටත් ජීවිතේ අවබෝධ කරන ප්‍රඥාව ලැබුනේ බුදු බණ ඇසීමෙන්. ඒ නිසා ඒ ප්‍රඥාව කියන එක ධර්මයෙන්ම ලැබෙන එකක්. සැදැහැ සිතින් ධර්මය අසද්දි ඒ ධර්මයෙන් උපදින එකක් ප්‍රඥාව. නැත්නම් සමහර කෙනෙක් හිතනවානෙ මේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය කියලා කියන්නෙ තමන් හරියට කල්පනා කිරීමයි කියලා. තමන් කල්පනා කරන විදියට කල්පනා කලොත් එහෙම පින්වතුනේ සසරට යනවා. තමන් කල්පනා කරන විදියෙන් ඇදෙන්නේ සංසාර ගමනට. සංසාර ගමනෙන් එතෙර වෙන්න නම් කල්පනා කළ යුත්තේ බුදුරජාණන් වහන්සේ වදාළ විදියට. භාග්‍යවතුන් වහන්සේ යම් විදියකට මේ ධර්මය කියාදුන්නාද, ඒ කියා දීපු කාරණා ඒ විදියට විමසීම යෝනිසෝමනසිකාරයයි. ඒ යෝනිසෝමනසිකාරය තුළින් තමයි තමන්ගේ ජීවිතයේ සංසාර ගමනින් ගලවාගන්නට ප්‍රඥාව උපදින්නෙ. දැන් මේක මේ විදියට තේරුම් ගත්තේ නැත්නම් ඇතැම් කෙනෙක් මේ ඔක්කොම පටලවාගෙන කල්පනා කරන්න හිතනවා. භාග්‍යවතුන් වහන්සේ තමයි මේ ජීවිතය ස්කන්ධ වශයෙන් බෙදලා පෙන්නුවේ. බුදුරජාණන් වහන්සේ වදාළා මේ ජීවිතය කියලා කියන්නෙ උපාදානස්කන්ධ පහක්. ඒ විදියට විභජනය කලේ ශාස්තෘන් වහන්සේ. ඇතැම් තැනක බුදුරජාණන් වහන්සේ වදාළා ජීවිතය

කියලා කියන්නෙ ධාතු හයක පැවැත්ම. තව තැනක බුදුරජාණන් වහන්සේ වදාළා ජීවිතය කියලා කියන්නෙ ආයතන හයක ක්‍රියාවලිය. තවත් තැනක බුදුරජාණන් වහන්සේ මේ ජීවිතයේ දුක් රැස ගැන වදාරනවා පටිච්ච සමුප්පාද ක්‍රමයට. මේ එකක් එකක් ගානෙ වදාළේ ධර්මය අවබෝධ කල, ස්වයංභූ ඥාණයෙන් ධර්මය අවබෝධ කල මහා කාරුණික ශාස්තෘන් වහන්සේ. බුදුරජාණන් වහන්සේ වදාරන විදියටම තමයි ඒ ඒ කාරණා අපි හිතේ දරාගන්නට ඕන. ඒ ඒ කාරණා අපි හිතින් විමසන්න ඕන. එසේ විමසනා කල්හි තමයි අපිට නිවනක් හැදෙන්නෙ. අපි අහන කරන ඉගෙන ගන්න දේවල් වලින් පින්වතුනි අපිට යම් දැනුමක් හැදෙන්නෙ. අපි හිතමු යම් විෂය ධාරාවක් ගැන අපිට දැනුමක් හැදෙන්නෙ ඒ විෂයට අදාල ගුරුවරු ඇසුරු කරලා ඒ ගුරුවරු ඇසුරේ අධ්‍යාපනය ලබනකොට. වෛද්‍යවරයෙකුට මේ වෛද්‍ය ශිල්පයට අදාල දේවල් කියලා දෙනවා ඒවා මතක තියාගෙන ඒවා කල්පනා කරනකොට ඔන්න ඒ හැකියාව හැදෙනවා. වෙන විෂය ධාරාවක් ගැන ඒ කෙනා ගුරු ඇසුරේ ඉගෙන ගන්නවා. ඒවා කල්පනා කරනකොට ඒ අනුව ජීවිතය හැදෙනවා. ඒ හැදෙන හැටියට, ඒ ඒ ගණයට නුවණ ඇති කරලා දෙනවා. බුදුරජාණන් වහන්සේගේ ධර්මය කියලා කියන්නෙ සාංසාරික ගමනේ දුකේ පැවැත්ම තේරුම් ගන්න තියෙන එකක්. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ ධර්මය කියලා කියන්නෙ සංසාර ගමනින් නිදහස් කරවන්න උදව් කරන එකක්. එහෙම නම් සාංසාරික ගමනේ දුක අවබෝධ කරගන්න කැමැති කෙනාට මේ සංසාර දුකින් නිදහස් වෙන්න කැමැති කෙනා තමන්ගේ ජීවිතයට ඒ නුවණ උපදවගන්න නම් එයා කළ යුත්තේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය හරියට අහන එක. ඇසූ ධර්මය ගැන පහන් සිතින් හොඳට නුවණින් විමසන එක, එතැනින් තමයි අපිට ප්‍රඥාව උපදින්නෙ. එතනින්මයි ජීවිතයට ප්‍රඥාව කියන එක උපදින්නෙ. ඒ ප්‍රඥාව ගැන තමයි භාග්‍යවතුන් වහන්සේ වදාළේ, පඤ්ඤා අනුත්තරාභා, ඒ ප්‍රඥාව නම් ජීවිතයට තියෙන උතුම්ම ආලෝකයයි. පඤ්ඤා නරානං රතනං - ඒ ප්‍රඥාව නම් මේ මනුස්සයාට තියෙන, මේ නරයාට තියෙන වටිනාම සම්පත්තියයි. ඒ ප්‍රඥාව නම් වූ වටිනා සම්පත්තියෙන් අපිව සසරින් ගලවනවා. ජීවිතේ ගැන වදාරනකොට ශාස්තෘන් වහන්සේ මේ ජීවිතේ නොයෙක් පරියායෙන් වදාළා. ස්කන්ධ වශයෙන් වදාළා. ධාතු වශයෙන් වදාළා. ආයතන වශයෙන් වදාළා. පටිච්ච සමුප්පාද විදියට වදාළා. නොයෙක් ආකාරයට ජීවිතේ දුක බුදුරජාණන් වහන්සේ පෙන්නුවා. ඊළඟට ඒ දුක්ඛිත වැඩපිළිවෙල හැදිලා තියෙන හැටි බුදුරජාණන් වහන්සේ පෙන්නුවා. හැබැයි විසඳුම විදියට

භාග්‍යවතුන් වහන්සේ වදාළේ එකක්. විසඳුම විදියට වදාළේ එකම එක වැඩපිළිවෙලක්. ඒ වැඩපිළිවෙල නම් කුමක්ද? ආර්ය අෂ්ටාංගික මාර්ගයයි. ආර්ය අෂ්ටාංගික මාර්ගයෙන්මයි මේ දුක නම් වූ මූර්තියේ පැවැත්ම නසන්න වෙන්නෙ. මේ දුක නම් වූ මූර්තියේ පැවැත්ම දිගින් දිගට දුක් දිදී යන එක නවත්වන්න තියෙන්නෙ ආර්ය අෂ්ටාංගික මාර්ගයෙන්. සම්මා දිට්ඨි, සම්මා සංකල්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි කියන උතුම් නිවන් මග. මේ නිවන් මග ගැන ශාස්තෘන් වහන්සේ වදාළා ඒකො මග්ගො නත්තඤ්ඤො දස්සනස්ස විසුද්ධියා - මහණෙනි, ජීවිතේ දැක්ම සම්පූර්ණයෙන්ම පිරිසිදු වීම පිණිස ඇත්තේ එකම එක මාර්ගයකි. මාර්ග බොහොමයක් නැත්තේය. ඒ එකම එක මග නම් කුමක්ද, ආර්ය අෂ්ටාංගික මාර්ගයයි. ඒ නිසා ආර්ය අෂ්ටාංගික මාර්ගයට බුදුසසුනේ ධම්මයානං ඉතිපි - ධර්ම යානය යැයි කියයි. බ්‍රහ්මයානං ඉතිපි - පරම පාරිශුද්ධ වූ නිර්වාණයට ගෙන යන නිසා ආර්ය අෂ්ටාංගික මාර්ගයට බ්‍රහ්මයානය යැයි ද කියති. අනුත්තරො සංගාම විජයො ඉති ඉතිපි - මේ ආර්ය අෂ්ටාංගික මාර්ගයට උතුම් වූ යුධ ජයග්‍රහණය කියාද කියයි. ඒ උතුම් වූ යුද ජයග්‍රහණය කියලා කියන්නෙ මේ ජීවිතය නම් වූ මූර්තියේ පැවැත්ම නැසුවා. මාරයා සමඟ යුද්ධයෙන් ජයගත්තා. ඉතින් සේලා කියන අර්හත් උත්තමාවිය සැවැත්නුවර අන්ධ වනයේදී ඔන්න ඔය විදියට ජීවිතය ගැන හරි අපූරුවට මාරයා ඉදිරියේ පැහැදිලි කිරීමක් කලා. එතකොට මාරයාට කටඋත්තර නැතිව ගියා. මාරයා අවසානයේ කල්පනා කරනවා, සේලා භික්ෂුණිය, මේ සේලා අර්හත් තෙරණිය මාව දැනගත්තා නොවැ. මේ සේලා අර්හත් තෙරණිය මාව හඳුනාගත්තා නොවැ. මේ සේලා අර්හත් තෙරණිය ඒ උත්තමාවිය අනතුරක් කරන්න පැමිණි කෙනෙක් විදියට මාව දැනගත්තා නොවැ කියලා දුක්වුනා. නොසතුටු වුනා. එදා අන්ධ වනයේදී සේලා අර්හත් උත්තමාවිය ඉදිරියේ මාරයා නොපෙනී ගියා. මේ බුදු සසුනේ නිවන් සුවය සාක්ෂාත් කල අර්හත් තෙරණිය, සේලා අර්හත් තෙරණිය. බලන්න උන්වහන්සේලාගේ ඒ ජීවිත වල තිබුනු ඒ ජීවිතාවබෝධයේ සුන්දරත්වය. ඒ සේලා අර්හත් උත්තමාවියට නමස්කාර කරමින් අපිත් අධිෂ්ටාන කරමු අපිත් මේ ජීවිතයේ තෙරුවන් මුණ ගැහිච්ච ජීවිතයේ සුවසේ පින් පුරාගෙන ප්‍රඥාව උපදවන ධර්මයත් හොඳින් ඉගෙන ගෙන ආර්ය අෂ්ටාංගික මාර්ගය දියුණු කරගෙන ඒ උතුම් අර්හතුන් වහන්සේලාත් අර්හත් තෙරණින් වහන්සේලාත් සැනසුනු නිවනේ අපිටත් සැනසෙන්න වාසනාව ලැබෙන්වා. සාදු සාදු සාදු!!!

අප රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අනුමෝදන් කරමු සියලු දෙවිවරුන්ට, සියලු දෙවියෝ සතුටු සිත් උපදවාගෙන මේ සියලු පුණ්‍ය ධර්මයන් අනුමෝදන් වෙත්වා, සක්දෙවිඳුන්, සතර වරම් දෙවිවරු, සෙන්පති දෙවිවරු ප්‍රධාන සියලු දෙවියෝ සතුටින් පින් අනුමෝදන් වෙත්වා. ඔබ අප හැමදෙනාගේම ඉෂ්ටකාමී, හිතකාමී දෙවිවරුත්, ශ්‍රීමත් සුමන සමන් දෙව්රජුන් ප්‍රධාන ලංකාභූමිය සුරකින්නා වූ සියලු දෙවිවරුනුත් පින් අනුමෝදන් වෙලා දෙවියො දිව්‍ය සැපයෙන් වැඩේවා, ඒ සියලුදෙවියන්ගේ ආශිර්වාද රැකවරණ අපි හැමදෙනාට දෙවියෝ සලසා දෙත්වා. දෙවියෝද සංසාර දුකින් අතමිදේවා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අපගේ ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන්ව පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව, නීරෝගීව දීර්ඝායුෂ සම්පත් ලබත්වා. මේ ගෞතම ශාසනය තුළ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්නට වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අද ධර්මදානමය පින්කම සිදු කරන මිනුවන්ගොඩ මනෝජ් ඉලෙක්ට්‍රිකල් ආයතනයේ පින්වත් මනෝජ් ගයාන් වික්‍රමාරච්චි මහත්මාගේ නමින් මියපරලොව යන්නට යෙදුනා වූ ගාමිණී අභයසිරි වික්‍රමාරච්චි පියාණන්ට මේ සියලු පින්පෙත් අනුමෝදන් වෙත්වා. 2021 අප්‍රේල් මාසයේ 16 වන දින හුණුමුල්ල මෙත්සිසිල භාවනා අසපුවේ පුණ්‍ය කටයුත්තක නියැලෙමින් සිටියදී හදිසි අනතුරක් හේතුවෙන් මියපරලොව යන්නට යෙදුනා වූ ඒ අසපුවේ තාවතිංස යාත්‍රා සංවිධානයේ සභාපති ලෙස කටයුතු කල අමිල සංජීව බාලසූරිය පුතණුවන්ටත් මේ සියලූම පින්පෙත් අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. තමන්ගේ නමින් මියගියා වූ සියලු ඥාතී හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන්ව ඥාතීන්ගේ හිතමිත්‍රාදීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා, ඒ ඥාතීන්ට මේ දුක් සහිත වූ සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙන්න ලැබෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනාව සිදු කරන්න. සුජීවත්ව සිටින පින්වත් කේ.ජී. කරුණාවතී මෑණියන්ට, ප්‍රියංකා දිලානි රුවන්පතිරණ, මනුජ ආදිත්‍ය වික්‍රමාරච්චි පුතණුවන්, මදීෂ ආදිත්‍ය වික්‍රමාරච්චි පුතණුවන්, නන්දා මනම්පේරි මෑණියන් සහ ආර්.පී. ගුණවර්ධන පියාණන් යන මේ සියලු දෙනාට මේ සියලූම පින්පෙත් එක ලෙසම අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. විශේෂයෙන් දරුවන් වන මනුජ ආදිත්‍ය සහ මතීෂ ආදිත්‍ය යන ඒ දරුවන්ට මේ සියලු පින් අනුමෝදන් වෙලා සියලු දෙනාට තෙරුවන් සරණ සියලු දෙවියන්ගේ රැකවරණ මේ රැස් කල

පිනේ ආශිර්වාද සැලසී නිදුක් නිරෝගී සුව සැලසේවා. දිගාසිරි සම්පත් සැලසේවා. සුවසේ දහම් මග දියුණු කරගෙන සුවසේ පින් රැස් කරගෙන චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්න මේ ධර්මදානමය පින ඒකාන්තයෙන් හේතු වේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. ධර්ම දානය සිදු කරන මිනුවන්ගොඩ මනොජ් ඉලෙක්ට්‍රිකල් ආයතනයේ ඒ පින්වත් මනෝජ් ගයාන් වික්‍රමාරච්චි මහත්මාට තමන්ගේ ව්‍යාපාර කටයුතු ආදිය සුවසේ සාර්ථකව සිද්ධ කරගන්නට සියලු දෙවියන්ගේ ආශිර්වාදය තෙරුවනේ ආශිර්වාදය නොඅඩුවම ලැබෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්මදාන සාමාජික පින්වතුන්ලාට ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සැමදෙනාට, සුපින්වත් ඔබ සැම සියලු දෙනාට මේ ජීවිතයේ සුවසේ පින් පුරාගෙන දහම් මග දියුණු කරගෙන ගෞතම ශාසනයේ ධර්මාවබෝධ කරන්නට වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=dZUVYP1ZWKs

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද දවසේ ධර්ම දේශනාවට අනුග්‍රහය දරනු ලබන්නේ මීට තුන් මාසයකට පෙර මියපරලොව යන්න යෙදුනා වූ පින්වත් ජී. මිල්ටන් සෙනරත් සමරසේකර පියාණන්ට පින්පෙත් අනුමෝදනා කිරීම පිණිස, පින්වත් මාග්‍රට් නෝනා මැණියන්, ධර්මදාන සාමාජිකා ඉතාලියේ පදිංචි ජී. නිලන්ති සමරසේකර දියණිය ඇතුලු ඒ පවුලේ සියලුදෙනාත් නිශ්ශංක සමරසේකර පුතණුවන්, නිරෝෂා සමරසේකර දියණිය අනුෂා සමරසේකර දියණිය, නෙතලි සමරසේකර දියණිය, නිරෝෂනී සමරසේකර දියණිය සහ ඒ පවුල්වල හැමදෙනාත් මුණුපුරු මිණිපිරියන් ඇතුලු ඒ සියලු දෙනා විසිනුයි මේ

ධර්ම දානය සිද්ධ කරන්නෙ, මූලිකව තමන්ගේ නමින් මියගිය ඒ ආදරණීය පියාණන්ට ඥාතිවරයාට පින්පෙත් අනුමෝදනා සිදු කරන උතුම් අදහසින්. ඒ අමා නිවන් දුටු රහත් තෙරණිවරු ධර්ම දේශනා මාලාවේදී අපි අහන්නේ තිලෝගුරු ගෞතම අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ උතුම් බුද්ධ ශාසනයේ නිවනින් සැනසිච්චි අර්හත් උත්තමාවියන් ගැන. ඒ උත්තමාවියො සංසාර ගමනේ රැස් කරපු පින් බලයෙන් මහා සත්පුරුෂ රත්නය වන බුදුරජාණන් වහන්සේ සමීපයට පැමිණිලා බුදුරජාණන් වහන්සේ අභිමුඛයේ ධර්මය ශ්‍රවණය කරලා මේ සම්බුද්ධ ශාසනයේ අර්හත්වය පසක් කලා. බුද්ධ ශාසනය සෝභමාන කලා. මේ බුදු සසුන සෝභමාන කරපු අර්හත් උත්තමාවියන් ගැන කතා කරනකොට අද අපිට ඉගෙන ගන්න තියෙන්නෙ සෝමා නම් වූ අර්හත් තෙරණිය ගැන. ඉතින් සෝමා තෙරණියගේ චරිතාපදානය අටුවා පොත් වහන්සේලා තුළ අන්තර්ගත වෙන්නෙ සිඛී අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ යුගයේ සිට. මීට තිස් එක් කල්පයකට පෙරයි සිඛී අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ මේ ලෝකයේ පහළ වුනේ. මනුස්සයාට අවුරුදු හැටදහසක ආයු ප්‍රමාණයක් තියෙද්දි උන්වහන්සේ මේ ලෝකයේ පහළ වෙලා සද්ධර්මය දේශනා කලා. සිඛී බුදුරජාණන් වහන්සේ එසේ දහම් දෙසන කාලයේ මැය ඉපදිලා සිටියා එක රජ කුලයක, රජෙකුගේ අගබිසවක්. මේ රාජකීය අගබිසවට රජුගේ නියමයෙන් දිනපතා ලැබෙනවා සුවඳ මල්. ඒ සුවඳ මල් ලැබෙන්නේ ඇයගේ ශරීරය සුවඳවත් කරගැනීම පිණිස. මේ මල් වලින් ඈ හිසේ ඔටුනු හදලා මල් ඔටුනු පළඳනවා. කෙස් වල මල් ගවසනවා. මල් මාලා පළඳිනවා. ඉතින් මේ වගේ මල් වලින් තමන්ගේ කය සැරසීම ඇය කලා. කය සරසන්න තමන්ට දිනපතා ලැබෙන මල් ගැන ඇයට දවසක් මෙහෙම හිතක් උපදිනවා. ඒ හිත උපන්නේ ඈ ඒ වෙනකොට සිඛී බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවිකාවක් විදියට බණ අහපු කෙනෙක්. බණ අහනකොට, අහනකොට ඇට උපදිනවා හිතක් මේ මල් මගේ හිසේ පළඳිනවාට වඩා මේ සුවඳ මල් වලින් මගේ මේ කුණුකය සරසනවාට වඩා මේ මල් බුදුරජාණන් වහන්සේට පුදන්න තියෙනවා නම් කොච්චර හොඳද. ඔන්න හිතිච්චි හිතුවිල්ල. සාමාන්‍යයෙන් ජීවිතය ගැන ධර්මය තුළින් ඇතිකරගත්ත වැටහීමක් නිසා තමයි මෙහෙම හිතෙන්න. නැත්නම් ඉතින් මේ කුණු කයකට ලෝභ බැඳගෙනනෙ පින්වතුනි අපි හැමදෙනාම ඉන්නෙ. මේ ලෝකෙ හැමදෙනාම වාසය කරන්නෙ, බහුතරයක් මේ කුණුකයකට ලෝභ බැඳගෙන, හේතුව මේ මනුස්සයාට වෙන දෙයක් නැති නිසා. තමන්ට ලැබිච්චි කය

සුවඳවත් කරනවා, තමන්ට ලැබිච්චි කය නොයෙක් විලාසිතාවන්ගෙන් සරසනවා, කය වෙනුවෙන් මහා කැපවෙලා වියපැහැදම් කරනවා. ශරීරය සුදු කරගන්න වැයම් කරනවා, ශරීරය මහත් කරගන්න වැයම් කරනවා, ඇතැම්හු කෙට්ටු කරගන්න වැයම් කරනවා. ඇතැම්හු මස්පිඩු තද කරගන්න වැයම් කරනවා, නොයෙක් දේවල්. කයක් නිසා කොච්චර නැහෙනවාද, සාමාන්‍ය ජීවිත. කොහොමත් නාකි වෙලා යන, කොහොමත් ලෙඩ වෙලා යන, කොහොමත් මරණින් අවසන් වෙන සිරුරක්නෙ මේක. ඉතින් මේ ශරීරය නිරෝගීව තියාගන්න ඕන. මේ ශරීරය පිරිසිදුව තියාගන්න ඕන. මේ ශරීරයට අවශ්‍ය පෝෂණය ආදිය දෙන්නත් ඕන. නමුත් ශරීරය ගැන තේරුම් අරගෙන. එතකොට මේ රාජකීය බිසවට සිතුවිල්ලක් උපදිනවා පරවෙලා යන මල්වලින් මේ කුණුකයක් තාවකාලිකව සරසනවාට වඩා මේ මල් මට බුදුරජුන්ට පූජා කරන්න ඇති නම්. රජ්ජුරුවො ඈ උදෙසා හැමදාම යොමු කරන මල් ඈ පුරුදු වුනා ඉන් පස්සෙ බුදුරජාණන් වහන්සේට පූජා කරන්න. ඈ සන්තක මල් සිඛී අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේට ඈ දිනපතා පූජා කලා. ඊට පෙර, ඒ කියන්නෙ බුදුරජාණන් වහන්සේට මල් පූජා කරන්න පෙර ඈ සන්තකයේ තිබූ මල් පරවෙලා ගියේ සාමාන්‍ය මල් පරවී යන විදියෙන්. ඒ මලෙන් ඇට කිසි විශේෂත්වයක් උපදලා දුන් නෑ. තාවකාලිකව ඇගේ සිරුර සැරසුවා ඒ මල්. හැබැයි දැන් සම්පූර්ණ වෙනස් වුනා. ඈ සන්තකයේ තිබුනු ඈ පූජා කරන මල් සම්බුදුරජාණන් වහන්සේ ඉදිරියේත් පරවී ගියා. හැබැයි ඒ මල පරවී යනකොට ඇගේ ජීවිතයට පුදුමාකාර පිනක් එකතු කරලා තමයි මල් ටික පරවුනේ. ඒක තමයි බුද්ධ ශාසනයක් තුළ ලැබෙන මහා වාසනාව. බුදු සසුනක් තුල ලැබෙන මහා වාසනාව. සාමාන්‍යයෙන් අපි ගත්තොත් පින්වතුනේ අපි සන්තකයේ තියෙන දාන වස්තු ආහාර පාන, ඒ ආහාර පාන අපි එකතු කරගෙන අපි සන්තකයේ තියාගෙන හිටියත් ඒවා අවසන් වෙලා යනවා. නමුත් ඇතැම්හු ඒ ආහාරපාන වලින් කොටසක් දන් පැන් විදියට පූජා කරනවා. ඒ දන් පැන් විදියට පූජා කරන කොටසින් එයාට විශාල පිනක් උපදිනවා. මේ පින කියන එක රැස් වෙනවා පේන්නෙ නැනෙ. පින කියන එක රැස්වීම ගැන දකින්න තියෙන්නෙ පින්වතුනේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය ගැන පහන් සිතින්මයි. බුදුරජාණන් වහන්සේ තමයි පින රැස් වීම ගැන හරී ලස්සනට වදාලේ. හරියට භාග්‍යවතුන් වහන්සේ දේශනා කලා මේ වතුර බිංදුව බිංදුව වැහෙන තැනක කළයක් තියලා තිබ්බොත් ඒ බිංදුව බිංදුව වැටෙන වතුරෙන් යම් කලෙක අර කළය සම්පූර්ණයෙන් පුරවලා දානවා. බිංදුව කියලා කතාවක් නෑ. අන්න ඒ

වගේ තමයි යම් කෙනෙක් ජීවිතයට පින රැස් කරනවා නම් ඒ රැස් කරන පින ටික ටික වෙන්න පුලුවන් රැස් කරන්නෙ, ඒ පිනෙන් එයාගේ ජීවිතේ යම් කලෙක සම්පූර්ණයෙන්ම පුරවා දානවා. ඒ නිසා පින රැස් කිරීම කියන එකට ඒකටත් තියෙන්න ඕන නුවණක්. හොඳට කල්පනා කරලා තමයි ජීවිතේ පින් රැස් කරගත යුත්තේ. ජීවිතේ අපි හිමිකරගෙන තියෙන දේවල් මොනවාද, ඒ හිමි කරගෙන තියෙන දේවල් වලින් අපිට මරණින් මත්තෙ අරගෙන යා හැක්කේ මොනවාද, අපේ ජීවිතේට හැබෑවටම පිළිසරණ තියෙන්නෙ මෙනවාගේද කියලා දකින්න තරම් නුවණක් තියෙන කෙනෙක් තමයි පින් රැස් කරන්නෙ. එහෙම නුවණක් තියෙන කෙනෙක්. තමන් ජීවත් වෙන පරිසරය, තමන් සමීපයේ තියෙන මලක් වත් අපතේ යවන් නෑ. මලක් වත් අපතේ යවන් නෑ. තමන් සන්තකයේ තියෙන, තමන්ගේ නිවසේ තියෙන, තමන්ගේ ගමේ තියෙන මලක්වත් නිකං පරවෙලා යන්න ඉඩදෙන්නෑ, පින ගැන දන්න කෙනා. එයාට පුලුවන් මල් ටිකක් කඩලා ලස්සනට හදලා සම්බුදුරජාණන් වහන්සේට පුදන්න, බෝධීන් වහන්සේට පුදන්න. සෑරජාණන් වහන්සේ නමකට පුදන්න. රහතන් වහන්සේලා උදෙසා පුදන්න. එතකොට ඒ මල් පරවෙන්නෙ තමන්ට පිනක් උපද්දලා. ඒ මල් පරවී යනකොට තමන්ට විශාල පිනක් උපදිනවා. දැන් අපිට අපේ ගුරුදේවෝත්තම පින්වත් ලොක් ස්වාමීන් වහන්සේගේ ආශිර්වාද අනුශාසනා නිසා මේ ලංකාභූමියේ වැඩ ඉන්න සුපූජනීය සෑරජාණන් වහන්සේ ස්වර්ණමාලි මහාසෑරජාණන් වහන්සේ උදෙසා මහා දහස්පෙතියා මල් පූජාවක් කරන්න අවකාශ ලැබුනා. ඒ පූජාවන්ට සහසම්බන්ධ වෙච්චි සුපින්වතුන්ලාට මේවා මතක ඇති. මහා දහස්පෙතියා මල් පූජාවක්. ලක්ෂ ගාණක් දහස්පෙතියා මල්. ඒ දහස්පෙතියා මල් සාමාන්‍යයෙන් මේ වෙනකොටත් මල් හැදෙනවානෙ ඕන තරම්. ඔය හැදෙන මල් එක එක කටයුතු වලට යෙදවෙනවා. ඒවා පරවෙලා යනවා. ඉතින් අපි රුවන්වැලිසෑයට පූජා කරපු දහස්පෙතියා මලුත් පරවී ගියා, අනිත්‍ය වී ගියා. හැබැයි ඒ ලක්ෂ ගාණක් මල් පරවුනේ අපේ ජීවිතේට විශාල පිනක් එකතු කරලා. ඒ නිසා පින කියන එක පින්වතුනේ අපි අපේ ජීවිතේට රැස් කරගන්න දක්ෂ වෙන්න ඕන. ඉස්සර අතීතයේ අපේ මුතුන් මිත්තො මේ ගහක ඉහළ හැදෙන මලක්වත් අපතේ යන්න දුන්නෑ. සමහර මල් හැදෙනවානෙ ගස්වල උඩ, ඒ උඩ හැදෙන මල් ගහට නැගලා කඩා ගන්නත් බැරි විදියේ මල් තියෙනවා. ඊළඟට ආච්චිලාට සීයලාට වගේ වයෝවෘද්ධ කෙනෙකුට අර උසක තියෙන මලක් කඩාගන්න පුලුවන්කමකුත් නෑ. එතකොට අපේ ආච්චිලා සීයලා අපේ මුතුන් මිත්තො ඒ කාලෙ අර ගස් උඩ හැදෙන මල් ගහේදිම

පූජා කරලා තියෙනවා බුදුරජාණන් වහන්සේට. ලස්සන මල් කිණිත්තක් දකිනකොට හිතුවා කියනවා මේ මල් මෙච්චර සුන්දර මල් වෙන කාටවත් නෙවෙයි මේ ලෝකෙ සුදුසු, මගේ ශාස්තෲන් වහන්සේට. මාගේ ශාස්තෲන් වහන්සේට වෘක්ෂයේ තිබියදීම මේ සුවඳ මල් පූජා වේවා. එහෙම පූජා කලා. ඉතින් ඒ නිසා තමන්ට පින රැස් කරගන්න තමන් දක්ෂ වෙන්න ඕන. කෙනෙක් පින රැස් කරගන්න දක්ෂ වෙන්නෙ පිනේ තියෙන වටිනාකම හඳුනාගත්තොත්. බුදුරජාණන් වහන්සේ දේශනා කලා පුඤ්ඤන්තෙ පුරිසො කයිරා - යම් කිසි කෙනෙක් පින රැස් කලොත්, කයිරාථෙන පුනප්පුනං - යළි යළිත් ඒ විදියටම පින් රැස් කරන්න මහන්සි වෙන්නෙ ඕන, තම්හි ඡන්දං කයිරාථ - පින රැස් කිරීම ගැන ලොකු ආසාවක් හිතේ ඇති කරගන්න ඕන, හේතුව සුඛො පුඤ්ඤස්ස උච්චයො - පින යනු සැපයටම කියනා තවත් නමකි. පින් කියන්නෙ සැපයටම කියන නමක් බව මේ සිද්ධියෙනුත් තේරෙනවා. සිඛී බුද්ධ කාලෙ ඔය විදියට භාග්‍යවතුන් වහන්සේ උදෙසා නිතර නිතර සුවඳ මල් පිදූ ඈ ඒ ජීවිතේ මරණයට පත්වෙනකොට කෙලින්ම උපන්නා සුගතියේ. නිදාගෙන පිබිදියාක් සේ ඈ උපන්නා සුගතියේ. සුගතියේ දෙවියන් අතර උපන්නාට පස්සෙ ඒ දෙවියන් අතරේදී ධර්මයේ හැසිරෙන, සත්පුරුෂ ධර්මකාමී දෙවියෝ ඇසුරු කරන්න ලැබුනා. ඒ දෙවියන් ඇසුරේ ඉන්නකොට ඈ තව තව ධර්මයත් ඇහුවා, තව තව ගුණධර්මත් දියුණු කරගත්තා. තව තව පිනත් රැස් කරගත්තා. ඉතින් ඔය විදියට පින රැස් කරගත්ත ඈ මේ තිස් එක් කල්පය ඇතුලෙ යළි දුගති උපතක් ලැබුවෙ නෑ. අපේ තිලෝගුරු අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ මේ මහා භද්‍ර කල්පයේ සතර වැනි සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෙස ශ්‍රී සම්බෝධිය සාක්ෂාත් කරන යුගයේ ඈ උපදිනවා රජගහනුවර, බිම්බිසාර මහරජ්ජුරුවන්ගේ පුරෝහිත බමුණාගේ දුව. ඇගේ නම සෝමා. සෝමාව හරි නුවණැතියි. හරි පින්වන්තයි. තරුණ අවධිය වෙනකොටම ඇය යොමුවුනා භික්ෂුණීන් වහන්සේලාගේ ඇසුරට. භික්ෂුණීන්ගේ ඇසුරේ බුදු බණ පද අහනකොට හිත ගොඩාක් පහන් වුනා. තමන්ගේ ධනවත් ජීවිතයේ තියෙන කාම සම්පත් වල නිස්සාර බව පසක් වුනා. ඔක්කෝම අත්හැරියා. දෙමව්පියන්ගේ අවසරයෙන් ඈ බුද්ධ ශාසනයේ පැවිදි වුනා. ඉතාම කෙටි කලකින් අර්හත්වයට පත්වුනා. දැන් මේ සෝමා අර්හත් තෙරණිය නිකෙලෙස් සිතක් ඇතිව බොහෝ ජනයාට දෙව්මිනිස්සුන්ට සෙත සළසමින් මේ මහපොළොවේ සැරිසරා වැඩම කරන කාලෙ. දවසක් දහවල් කාලයේ සැවැත්නුවර පිණ්ඩපාතෙ වැඩලා, සෝමා අර්හත් උත්තමාවිය පිණ්ඩපාතෙන්

පස්සෙ කල්පනා කලා කියනවා, හුදෙකලා විවේකය පිණිස අන්ධ වනයට වැඩම කරන්නට ඕන. ඔය අන්ධ වනය කියන්නෙ පින්වතුනි මුණිවරුන්ම වාසය කරපු කැලයක්. ජනයාගෙන් ශුන්‍ය කැලයක්. සාමාන්‍ය ජනයා නෑ. මේ අන්ධ වනයේත් ඇතුලටම වැඩම කලා සෝමා අර්හත් තෙරණිය. මේ අන්ධ වනයේ ඇතුල කියන්නෙ පොඩ්ඩක් බයජනක අරමුණු සහිත. කැලය ඇතුලට ගියාම, සාමාන්‍යයෙන් වෘක්ෂ වලින් ගහන කැලේ ඇතුලේ ඇවිදලා තියෙන අය දන්නවා කළුවරයි. පාළුයි. සාමාන්‍ය හිතක් බයවෙන අරමුණු වලින් යුක්තයි. නමුත් මේ සෝමා නම් වූ තරුණ අර්හත් තෙරණිය මේ වැඩම කලේ තුන්ලෝකයේම ඇව බය කරන්නට කිසිම අරමුණක් නැති විදියේ හිතක් ඇතිව. ඒ හිත බය කරන්න පුලුවන් කිසිම අරමුණක් මේ තුන් ලෝකෙ නෑ, හේතුව ඒ හිතේ බය නම් වූ කාරණය නැසී ගිහිල්ලා. භය වෙන කිසිම කාරණාවක් ඒ හිතක නැත. සියලු බය හටගන්නෙ කෙලෙස් නිසා. කෙලෙස් සහිත සත්වයාට බය හටගන්නවා. කෙලෙස් නැසූ උතුමන්ට භය නැත. ඒ ස්වභාවයට මේ ලෝකෙ පත්වුනේ අපි සරණ ගියපු ශාස්තෘන් වහන්සේනෙ. මේ යුගයේ මුලින්ම සියලු භය නැසුවේ බුදුරජාණන් වහන්සේ. බුදුරජාණන් වහන්සේව බය වද්දන්න කියලා ලෝකයේ වසවර්ති මාරයා එක එක දේවල්, නොයෙක් නොයෙක් අවස්ථාවල කලා. එක කාලෙක බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්නවා වේළුවනාරාමයේ. වේළුවනාරාමයේ හුදෙකලාවේ තනි කුටියක වැඩ ඉන්නකොට භාග්‍යවතුන් වහන්සේ සමීපයට මාරයා බයජනක අරමුණක්, බයජනක රූපයක් මවාගෙන පැමිණියා. ඒ පැමිණුනේ මං බුදුරජාණන් වහන්සේව බය වද්දනවා, තැතිගන්වනවා කියන හිතින්. ඒ වෙලාවේ බුදුරජාණන් වහන්සේ මාරයාට ගාතා කිව්වා. එම්බා මාරය, ඔහොම නෙවෙයි, නභං පලෙය්‍ය - මේ අහස දෙබෑ වෙලා ගියත්, පඨවි චලෙය්‍ය - මේ මුලු මහත් පෘථිවියම බිහිසුණු විදියට කම්පා වුනත්, සල්ලංපිචේ උරසේ පක්කිතෙය්‍ය - තියුණු සැතක් අරගෙන පපුව විනිවිද යන්න ඇන්නත්, සබ්බෙසු පානේසු උදසන්තෙය්‍ය - යම් බිහිසුණු අරමුණක් නිසා ලෝකෙ ඉන්න සියලූම සත්තුන්ගේ හිත් උමතු වෙලා ගියත්, එබඳු බිහිසුනු අරමුණකටවත්, උපදීසුතානං අකරන්ති බුද්ධා - සම්බුදුරජාණන් වහන්සේලා කෙලෙස් වලින් නම් පිහිටක් හොයන් නෑ කිව්වා. කෙලෙස් වලින් රැකවරණයක් හොයන් නෑ කිව්වා. කෙලෙස් නැසූ නිසා. ඒ කෙලෙස් නැසූ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ධර්මයෙන් උපන් මේ රහතන් වහන්සේලා ධර්මයෙන් උපන් මේ රහත් තෙරණිවරු ධර්මයෙන් උපන් නිසා ඒ රහතන් වහන්සේලාට කියනවා බුදුරජාණන් වහන්සේගේ පුත්‍රයො, අර්හත්

උත්තමාවියන්ට කියනවා බුදුරජාණන් වහන්සේගේ දියණියන්. ඉතින් බුදුරජාණන් වහන්සේගේ දියණියක් සෝමා අර්හත් තෙරණින් වහන්සේ. මේ සෝමා තෙරණිය අන්ධ වනය ඇතුලට ගිහිල්ලා රුක් සෙවණක වාඩිවුනාම පවිටු මාරයා දකිනවා. දැකලා පවිටු මාරයා කල්පනා කලා මං මේ සෝමා භික්ෂුණියව භය කරවන්නට ඕන, තැතිගන්වන්නට ඕන, මවිල් කෙලින් කරවන්නට ඕන, මැව සමාධියෙන් දුරු කරවන්නට ඕන. දැන් මේ සෝමා භික්ෂුණිය කියන්නෙ අර්හත් උත්තමාවියක් බව මාරයාට අඳුරගන්න බැරිව ගියා. මේ රහතුන් වඩිනා මග කවරෙක් නම් දකින්නද නේද. භාග්‍යවතුන් වහන්සේ වදාළේ, ආකාසේව සකුන්තානං පදං තස්ස දුරන්නයං - අහසේ කුරුල්ලෝ ඉගිල්ලිලා යන්නෙ අහසේ පියවර සටහන් තියලා නොවෙයි. මනුස්සයෙක් වැල්ලක ඇවිදගෙන ගියොත් වැල්ලේ පියවර සටහන් තියෙනවා, මනුස්සයා ගියපු පාර හොයන්න පුලුවන්. සතෙක් ගොඩබිම ඇවිදගෙන ගියොත් ගොඩබිම ඇවිදගෙන ගියපු පාර හිටිනවා, හොයන්න පුලුවන්. අහසේ කුරුල්ලො ඉගිලිලා යනවා පියවර සටහනක් කිසිම සටහනක් නොතියා. ඌ කොයි පාරේද ගියෙ කියලා කාටවත් හොයන්න බෑ, ඔන්න ඔය වගේ රහතන් වහන්සේලාගේ අර්හත් තෙරණිවරුන්ගේ වැඩම වීම. උන්වහන්සේලාගේ හිත ඒක කාටවත් දකින්න පුලුවන් එකක් නෙවෙයි. එතකොට සෝමා තෙරණිය ගැන මාරයාට අඳුරගන්න බැරිව ගියා. මාරයා සෝමා තෙරණිය සමීපයට ගිහිල්ලා සෝමා තෙරණිය ඉදිරියේ ගාථා කියනවා. මෙන්න මෙහෙම ගාථාවක් කිව්වෙ. යං තං ඉසීහි පත්තබ්බං ඨානං දුරභි සම්භවං නතං ගංගුල පඤ්ඤාය සක්කා පප්පූති මිත්තියා - ඔය අර්හත්වය කියන්නෙ අවබෝධයට ඉතා දුෂ්කර දෙයක්. බුදුවරුන් ඍෂිවරුන් වගේ උදවියයි අර්හත්වය අවබෝධ කරන්නෙ. මේ ඇඟිලි දෙකේ නුවණ තියෙන ගැහැණියකට පුලුවන්ද එවැනි දෙයක් අවබෝධ කරන්න. මාරයා අර සෝමා තෙරණියට නිකං එපා කරවන අදහසින් තමයි මේ කියන්නෙ. ඇඟිලි දෙකේ නුවණ තියෙන ස්ත්‍රීන්ට පුලුවන් ද නිවන් දකින්න කිව්වා. ඇඟිලි දෙකේ නුවණ කියලා කියන්නෙ ඇයි? බතක් උයනකොට බත් ඇටය පොඩි කරලා මේ බත ඉදුනාද නැද්ද කියලා බලාගන්න නුවණ විතරයි තියෙන්නෙ, වෙන එකක් නෑ කියන අදහස තමයි මාරයා මේ කිව්වෙ. එතකොට සෝමා තෙරණිය තමන්ගේ දියුණු කරන ලද ප්‍රඥාවෙන්, දියුණු කරන ලද නුවණින් බැලුවා කවුද මේ, මේ විදියේ ගාථා කියන්නෙ. මේ කැලේට ආපු මට තනිපංගලමේ විවේකයෙන් භාවනා කරන්න ආපු මට මේ විදියේ නිකං අමුතු වචන කියන මෙයා කව්ද? මෙයා මනුස්සයෙක්ද, අමනුස්සයෙක්ද, මොකෙක්ද

කියලා බැලුවා. ඒ බලනකොට සෝමා තෙරණියගේ නුවණට අහුවෙනවා, මේ පාපී මාරයා නොවැ. ඈ ඒ වෙලාවේ උත්තරය දෙනවා. ඉත්ථී භාවො නො කිං කයිරා චිත්තම්හි සුසමාහිතෙ ඤානම්හි වත්තමානම්හි සම්මා ධම්මං ඉපස්සතූ - ඒයි මාරය සිත සමාධිමත් නම් අපේ ගෑණුකම ගැන මොකක් කරන්නද. හිත හොදට සමාධිගත වෙලා නම් තියෙන්නෙ කෙලෙස් අරමුණකින් ඒ හිත ඇවිස්සෙන්නේ නැත්නම් ගෑණුකම ගැන මොනවද කියන්නෙ කියලා ඇහුවා. කෙලෙස් අරමුණක් ඔස්සේ හිත ඇවිස්සෙන්නේ නැත්නම් තමන්ට ඕන කුසල අරමුණක හිත තැන්පත් කරගන්න පුලුවන් නම් අපේ ගෑණුකමින් ඇති ඵලය මොකක්ද කියලා අහනවා. කාන්තාවක් විදියට වුනත් මේ හිත දමනය කරගත්තා නම්, හිත දමනය කරගන්නවා කියන එක ලෝකයේ දුෂ්කර දෙයක්. ලෝකයේ දුෂ්කර දෙයක් හිත දමනය කරගන්නවා කියන එක. හිත දමනය කරගැනීම පිණිසයි තථාගත බුදුරජාණන් වහන්සේලා සතිපට්ඨානය වදාරන්නෙ. ඒ සතිපට්ඨානය තුළ මැනැවින් හිත දමනය කරගත්තා නම් මේ ගෑණුකම ගැන මොකක් කරන්නද කියලා අහනවා. හිතේ ස්වභාවය ගැන බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ අරමුණක් අරමුණක් පාසා ඇදෙන විදිය. බුදුරජාණන් වහන්සේ වදාලා මහණෙනි ඒක මේ වගේ එකක්. සත්තු හය දෙනෙක්ව මනුස්සයෙක් අල්ලගත්තා. ඒ සත්තු හය දෙනා එක එක තැන් ගොදුරු කරන අය. එයාලා ආස එක එක තැන් වලට. ඒ මනුස්සයා අල්ලගත්තා කිඹුලෙක්. කිඹුලා ආස කරන්නෙ වතුරේ ඉන්න. ඒ මනුස්සයා අල්ලගත්තා වඳුරෙක්. වඳුරා ආස කරන්නෙ ගස් උඩ අත්තෙන් අත්ත පැන පැන යන්න. ඒ මනුස්සයා අල්ලගත්තා බල්ලෙක්. බල්ලා ආස කරන්නෙ ගමට වෙලා මිනිස්සුන්ගේ ඇසුරේ ඉන්න. ඒ මනුස්සයා අල්ලගත්තා සිගාලයෙක්, හිවලෙක්. හිවලා ආස කරන්නෙ සොහොනට ගිහිල්ලා ඔය සොහොනේ විසික්කරලා දාන මලකුණක් කාලා සොහොනට වෙලා වාසය කරන්න. ඒ මනුස්සයා අල්ලගත්තා ගිරවෙක්. මේ ගිරවා, පක්ෂියා ආස කරන්නෙ අහසට ඉගිල්ලිලා පියාඹලා යන්න. ඒ මනුස්සයා අල්ලගත්තා නාගයෙක්. නාගයා ආස කරන්නෙ ගුලකට රිංග ගන්න. දැන් එතකොට මේ හයදෙනා හයතැනක් ඇසුරු කරන්නෙ. හයතැනක් ඇසුරු කරන්න ආසා කරන අයව මේ මනුස්සයා එක එක්කෙනාගේ බෙල්ලේ ලණුවක් ගැටගහලා ඔය ලණුටික ඔක්කොම එකට අරගෙන එක ගැටයක් ගැහුවා කියනවා. එක ගැටය ගහලා අතෑරියා. දැන් නාගයා දඟලනවා හුඹහට ඇදෙන්න. කුරුල්ලා දඟලනවා අහසට ඉගිල්ලෙන්න. වඳුරා දඟලනවා ගහකට ගොඩවෙන්නෙ. කිඹුලා දඟලනවා වතුරට ඇදගෙන යන්න. එක එකා

එක එකට ඔට්ටු වෙනවා. එතකොට කවුද ඕකෙන් ජයගන්නෙ. යම් වෙලාවක යමෙක් ශක්ති සම්පන්න වෙනවාද, අනෙක් එවුන් බෙලහීන වෙනවාද ශක්ති සම්පන්න වෙච්ච කෙනාගේ පැත්තට ඒක ඇදිලා යනවා, ඕකනෙ සිද්ධ වෙන දේ. බුදුරජාණන් වහන්සේ දේශනා කලා ඔන්න ඔය වගේ කියනවා මේ මනුස්සයාගේ ජීවිතය. මේ මනුස්සයාගේ ජීවිතෙත් ඉන්නවා ඔය වගේ එක එක තැන් ඇසුරු කරන සත්තු හය දෙනෙක්. ඇහැ කියන අරමුණ, ඇහැ කියන ආයතනයෙන් මනුස්සයා ගන්න කැමැති අරමුණ රූප. ඇහෙන් ආසයි රූප බලන්න. කණෙන් ආසයි සද්ද අහන්න. නාසයෙන් ගඳ සුවඳ දැනගන්න ආසයි, සුවඳ විඳින්න ආසයි. දිවෙන් රස විඳින්න ආසයි. කයෙන් පහස ලබන්න ආසයි, මනසින් අරමුණු හිත හිතා ඉන්න ආසයි. හැමතිස්සෙම ඔය යුද්ධෙ. ජීවත් වෙනවා කියන්නෙ ඔය යුද්ධෙ. රූප බල බල, ශබ්ද අහ අහා, ගඳ සුවඳ විඳ විඳ, නොයෙක් රස විඳ විඳ නොයෙක් පහසත් එක්ක අරමුණු ජාලාවක හිරවෙලා, මෙහෙම නේද ජීවිතේ. මෙහෙම ජීවිතේ තියෙද්දි හැම තිස්සේම වෙහෙස. හැමතිස්සේම වෙහෙස තියෙන්නෙ. හරියට අර සත්තු හය දෙනා හැමතිස්සෙම හෙම්බත් වෙනවා, එක එක පැත්තට ඇදි ඇදී උන්ට ඉන්න වෙලා. ඇයි එකෙකුටවත් එක අරමුණක් නෑ. එතකොට නුවණැති පුරුෂයෙක් මොකද කරන්නෙ මේ සත්තු හෙම්බත් වෙන එක නවත්වන්න සත්තුන්ගේ වෙහෙස නවත්වන්න ඒ පුරුෂයා කලේ කණුවක් ගැටගැහුවා. කණුව ගැටගහලා, ඒ ගැටගැසූ කණුවේ මේ සත්තු හයදෙනාගේ අර පොටවල් ටික බැන්දා. දැන් සත්තු හය දෙනාට එකෙක් දැඟළුවා කියලා එහෙම වෙහෙසට පත්වීමක් නෑ හය දෙනාම. දැන් සත්තු ටික කොහොමද ගත කරන්නෙ, අර කණුව ඇසුරු කරගෙන යම් දුරක් යන්න පුලුවන්ද, ඒ දුර තුළ මුන් ඉන්නවා. ඒ කණුව නම් කුමක්ද, ඒ කණුව තමයි සතර සතිපට්ඨානය, කායානුපස්සනා, වේදනානුපස්සනා, චිත්තානුපස්සනා, ධම්මානුපස්සනා කියන සතිපට්ඨානය. සතිපට්ඨානය තුළ මැනැවින් හිත පිහිටුවාගත්තා නම් ඒ මැනැවින් සතිපට්ඨානය තුළ පිහිටුවාගත්තු හිත සමාධිගත වෙනවා. චිත්ත සමාධිය යම් කෙනෙක් ලැබුවා කියලා කියන්නෙ ඒ චිත්ත සමාධිය ලැබූ කෙනා දුෂ්කර දෙයක් කලා. ඉතින් ඒ නිසා තමයි ඒ අර්හත් උත්තමාවිය කියන්නෙ සිත සමාධිමත් නම් අපේ ගෑණුකම ගැන මොනවා කරන්නද. දැන් මෙතන මේ සමාධිය කියලා කියන්න සම්මා සමාධියනෙ. සම්මා සමාධිය කියලා කියන්නෙ පින්වතුනේ පරිෂ්කාර ධර්ම හතකින් සම්පූර්ණ වෙච්ච සමාධියක්. පරිෂ්කාර කියලා කියන්නෙ සමාධි පරික්කාර සම්මා සමාධියේ පරික්කාර කියලා කියන්නෙ

සම්මා දිට්ඨිය, සම්මා සංකල්පය, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම කියන හතෙන්ම ලබන සමාධිය. ගුණධර්ම ගොඩාක්. ඒ ගුණධර්ම සියල්ලම දියුණු කරගත්තා නම් මාරය මේ ගෑණුකම ගැන ඔබට මොනවා කරන්නද. මේ ධර්මයත් හොඳට විදර්ශනා කරලා නුවණ දියුණු කරගත්තහම ඔය ගෑණුකම ගැන මොකක් කරන්නද. ධර්මය හොඳට විදර්ශනා කරලා තමන්ගේ නුවණ දියුණු කරගත්තා නම් මේ ගෑණුය, පිරිමිය කියලා මොනවා කරන්නද කියලා අහනවා. ස්ත්‍රියාවක් විදියට හරි මැනැවින් ධර්මය දියුණු කරගත්තා නම් ඒ නුවණ තිබුනු ඊළඟට පින තිබුනු ස්ත්‍රීන් ඔය විදියට ජීවිතේ ධර්මය දියුණු කරගත්තා. ධර්මය දියුණු කරගත්තා කියලා කියන්නෙ පින්වතුනි ධර්මයේ දියුණුව කියලා කියන්නේ මොකක්ද, සංසාරයට බැඳිලා තියෙන බන්ධනයන්ගෙන් නිදහස් වීම. සබ්බත්ථ විහතානන්දි තමොක්ඛන්ධො පදාලිතො එවං ජානාහි පාපිම නිහතො ත්වමසි අන්තකා - හැමදෙයක් ගැනම ආසාව මං නැති කරලා දැම්මා. අවිද්‍යා අඳුර කෙලෙස් කඳ පලා දැම්මා. මාරය ඔන්න ඔය විදියටයි ඔබ මං ගැන දැනගන්න ඕන. මාරය ඔය කරුණේදී ඔබයි නැසී ගියේ. අන්න එහෙම උත්තරය දුන්නා සෝමා අර්හත් උත්තමාවිය. සෝමා අර්හත් උත්තමාවිය මේ ජීවිතයේ අවිද්‍යාව නම් වූ මහා කෙලෙස කඳ උතුම් නිවන් මඟ තුළ පිහිටා පලා දමනු ලැබූ කෙනෙක්. දැන් මේ මාරයා සමීපයට පැමිණෙන අවස්ථාව වෙනකොටත් සෝමා තෙරණිය කියලා කියන්නෙ කෙලෙස් නැසූ උත්තමාවියක්. ඈ කියනවා මං අවිද්‍යා කෙලෙස් කඳ පලා දමපු කෙනෙක්. අවිද්‍යාව කියලා කියන්නෙ මහා ඝන අඳුරක් කියලා බුදුරජාණන් වහන්සේ වදාළේ. භාග්‍යවතුන් වහන්සේ දවසක් භික්ෂූන්ට ලෝකාන්තරික නරකය ගැන ධර්මය දේශනා කලා. බුදුරජාණන් වහන්සේ වදාරනවා මහණෙනි, අන්ධකාරයක් තියෙනවා මේ ලෝකයේ ලෝකාන්තරික කියන නරකයේ, ඒ නරකයේ තියෙන අඳුර මෙහෙම එකක්. ඉර එළියත් එතන නෑ, සඳ එළියත් නෑ, තාරකා බබළන්නෙත් නෑ, ඔන්න ඔහොම අඳුරක් මහණෙනි එතන තියෙනවා. එතකොට එක භික්ෂූන් වහන්සේ නමක් ඔතන ඉඳලා ඇහුවා ස්වාමීනී ඒ අන්ධකාරයටත් වඩා අඳුරක් මේ ලෝකයේ ස්වාමීනී තියෙනවාද. බුදුරජාණන් වහන්සේ වදාළා භික්ෂුව ඊටත් වඩා අඳුරක් මේ ලෝකෙ තියෙනවා. මේ ලෝකෙ තියෙන ඊටත් වඩා අඳුර නම් කුමක්ද? චතුරාර්ය සත්‍යය ධර්මය නොදන්නා බවය. එනම් අවිද්‍යාව. අවිද්‍යාව කියලා කියන්නෙ මේ ලෝකෙ තියෙන මහා අන්ධකාරය. ඊටත් වඩා අඳුරක් නැත. අවිද්‍යා අඳුරෙන් වැහිච්චි කෙනාට සාංසාරික ගමනේ ඇත්ත නොපෙනේ. ඇත්ත

නොපෙනෙන නිසා අවිද්‍යා අඳුරෙන් වැහිච්චි කෙනා මුලාවේ. මුලාවට පත්වෙන කෙනාට සංසාර ගමනේ අනතුරුමය. ඉතින් ඊට වඩා අඳුරක් කොහෙද නේද. බුදුරජාණන් වහන්සේ එහෙම දේශනා කලා අවිද්‍යාව ගැන. ඊළඟට භාග්‍යවතුන් වහන්සේ පපාත කියන සූත්‍ර දේශනාවේදී අවිද්‍යාව කියන මහා අනතුර කියලා වදාළා. ඒක වුනේ මෙහෙම. බුදුරජාණන් වහන්සේත් භික්ෂු සංඝයාත් පටිභාණකූඨයට වැඩම කලා. ඒ පටිභාණකූඨ කියලා කියන්නෙ දඹදිව තිබිච්චි එකක්. මේක මේ යම් උස තැනක්. එතකොට මේ පටිභාණකූඨයට වැඩම කරන මාවතේ එක දරුණු ප්‍රපාතයක් ළඟින් යන්න තිබුනා. ඉතින් බුදුරජාණන් වහන්සේ භික්ෂූන්ට වදාරනවා මහණෙනි, දරුණු ප්‍රපාතයක් තියෙනවා පරිස්සමින් වඩින්න. ප්‍රපාතය අවසන් වුනාට පස්සෙ, ඒ භයානක පාර කොටස අවසන් වුනාට පස්සෙ භික්ෂූන් අහනවා ස්වාමීනී, දරුණු ප්‍රපාතයක්. දරුණු ප්‍රපාතයක් ඇදගෙන වැටුනොත් එහෙම විශාල අනතුරක්. ස්වාමීනී මේ දරුණු ප්‍රපාතයෙන් ඇදගෙන වැටීම වගේ බිහිසුනු දෙයක් ජීවිතේට සිද්ධ වුනොත් ඒක මහා අභාග්‍යයක්. ස්වාමීනී ඊට වඩා අභාග්‍යයක් තියෙනවාද ජීවිතේ. බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ වදාළා මහණෙනි, දරුණු ප්‍රපාතයකින් ඇදගෙන වැඩෙනවාටත් වඩා භයානක ආගාධයක්, භයානක ඇදගෙන වැටීමක් මේ ජීවිතේට තිබේ. එනම් කුමක්ද, අවිද්‍යාව තුළට ඇදගෙන වැටීමය. අවිද්‍යාව නම් වූ ප්‍රපාතයට ඇදගෙන වැටීමය. දුක ගැන නොදන්නාකම, දුකේ හටගැනීම ගැන නොදන්නාකම, දුක නිරුද්ධ වීම ගැන නොදන්නාකම, දුක නිරුද්ධ කරන ප්‍රතිපදාව ගැන නොදන්නාකමට ඇදගෙන වැටීමක් ඇත්ද එය ජීවිතයේ දරුණුම ප්‍රපාතය යැයි කියමි. බුදුරජාණන් වහන්සේ වදාරනවා ඇයි ඒක දරුණු? මහණෙනි සාමාන්‍ය ප්‍රපාතයකින් ඇදගෙන වැටුනා කියා ඔහු සතර අපායේ යන්නේ නැත. එහෙත් අවිද්‍යාව නම් වූ ප්‍රපාතයට ඇදගෙන වැටෙන කෙනා සතර අපාය උරුම කරගන්නේය. බලන්න ශාස්තෘන් වහන්සේ මේ ධර්ම අර්ථ පහදන හැටි. එතකොට මෙසේ ධර්ම අර්ථ පහදනකොට ඒක නුවණින් අවබෝධ කරගෙන විදර්ශනාව දියුණු කරන්න යමෙක් දක්ෂ නම් එයා ස්ත්‍රියක්ද පුරුෂයෙක්ද කියන කතාව නෑ, එයා මේ සංසාර ගමනින් නිදහස් වීමේ තැනට පැමිණුනා. මේ සාංසාරික ගමනේ දුක උරුම කරගන්නැතිව සැපයට පත්වෙන තැනට පැමිණුනා. ඒක සියුම් නුවණකින් කරන්න තියෙන දෙයක්. අපේ ආනන්ද මහතෙරුන් වහන්සේ දවසක් පිණ්ඩපාතෙ වැඩම කරලා එනකොට රජ කුමාරවරු යුද්ධය පිණිස ශිල්ප පුහුණුව. ඒ රජකුමාරවරු ඈත එල්ලලා තියෙන ඉලක්කවලට හරී දක්ෂ

විදියට විදිනවා. දැන් ආනන්ද තෙරුන් වහන්සේ කියලා කියන්නෙත් ශාක්‍ය වංශික කුමාරයෙක්නෙ. පැවිදි වෙන්නෙ පෙර. ශාක්‍යයො කියලා කියන්නෙ යුද්ධයේ අති දක්ෂයො. යුධ ශිල්පයේ අති දක්ෂයො. ඉතින් අර කුමාරවරු යුධ ශිල්පයේ යෙදෙන දිහා උන්වහන්සේ බලාගෙන හිටියා. බලාගෙන ඉදලා උන්වහන්සේට සතුටක් උපන්නා මේ කුමාරවරු හරී ලස්සනට විදිනවා, හරි දක්ෂයි මේ ගොල්ලො කියලා. ඉතින් උන්වහන්සේ භාග්‍යවතුන් වහන්සේ ළඟට වැඩම කරලා සවස් කාලෙ බුදුරජාණන් වහන්සේට ඔය දැකපු සිද්ධිය කිව්වා. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, අද පිණ්ඩපාතෙ වැඩම කරලා මන් ආපහු වඩිද්දි මං දැක්කා රජ කුමාරවරු දුනු ශිල්පයේ හික්මෙන හැටි. ස්වාමීනී හරි ගාණට විදිනවා. කුමාරවරු දක්ෂයි කිව්වා. බුදුරජාණන් වහන්සේ වදාළා ආනන්ද දක්ෂ කමක් තමයි. මං දක්ෂ කමක් නොවේ කියලා කියන්නෑ. හැබැයි ආනන්දය, යම් කෙනෙක් හතට පැලූ අස් ලෝමයක් බඳු හීයකින්, හතට පැලූ අස්ලෝමයකට විදිනවා නම් වඩාත්ම දක්ෂකම අර රජකුමාරවරුන්ගේ දක්ෂකමද නැත්නම් හතට පැලූ අස්ලෝමයට හතට පැලූ අස්ලෝමයකින් විදීමද? කිව්වා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, හතට පැලූ අස්ලෝමයකින් තවත් හතට පැලූ අස්ලෝමයකට විදීම සියුම්, ඒකමයි දක්ෂකම. බුදුරජාණන් වහන්සේ වදාළා, ආනන්දය යම් ඒ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කිරීමක් ඇත්ද, අවිද්‍යාව දුරු කිරීමක් ඇත්ද, එය ඊටත් වඩා සියුම්ම දක්ෂකමකි. එතකොට මේ ලෝකෙ දක්ෂම දේ මොකක්ද, චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්න එක. අවිද්‍යා අන්ධකාරය දුරු කරලා දාන එක. ඉතින් අවිද්‍යාව කියන ඝන අඳුරු දුරු කරලා දාන්න තරම් දක්ෂ වුනා නම් මාරය, මේ ස්ත්‍රී භාවයෙන් ඇති කාරණය මොකක්ද. එහෙමයි සෝමා තෙරණිය ඇහුවේ. යම් කෙනෙක් අවිද්‍යාව සම්පූර්ණයෙන් දුරු කරන්න දක්ෂ වුනා නම් මේ ස්ත්‍රී භාවයෙන් ඇති අර්ථය මොකක්ද කියලා අහනවා. එයා ස්ත්‍රියක් විදියටද උපන්නෙ, පුරුෂයෙක් විදියටද උපන්නෙ කියන කාරණය නෙවෙයි කියනවා, අදාල, ධර්මය අවබෝධ කරාද කියන එක. මොකද පින්වතුනේ සංසාර ගමනේ ධර්මාවබෝධය ගැන බුදුරජාණන් වහන්සේ එක අවස්ථාවක වදාළා සත්ත සති කියන සූත්‍ර දේශනාවේදී භාග්‍යවතුන් වහන්සේ වදාරනවා මහණෙනි, එක රජෙක් ළඟට දඬුවම් ලැබිය යුතු හොරෙක්ව අල්ලගෙන ඇදගෙන ආවා. රාජපුරුෂයො කියනවා රජතුමනි මේ හොරා බොහොම දරුණු එකෙක්. මේකා අපරාධ ගොඩාක් කරපු එකෙක්. ඔබතුමා මේකාට දඬුවම් පමුණුවන්න. එතකොට රජතුමා කිව්වා එහෙනම් රාජපුරුෂයෙනි, ඔය හොරාව අරගෙන ගිහිල්ලා

වධක භූමියේ බිම පෙරළලා තියුණු හුල් සීයකින් ඔය හොරාට ඇනපල්ලා. දැන් මේක වුනේ උදේ කාලෙ. ඔන්න උල් සීයකින් ඇන්නා. දහවල් කාලයේ රජ්ජුරුවන්ට සිහිපත් වෙනවා මේ හොරා ගැන. අහනවා රාජපුරුෂයෙනි, අර උදේ දඬුවම් පමුණුවපු සොරා හුල් පහර සීයකින් පහර කාපු සොරා ඒකා තාම ජීවත් වෙනවාද. රජතුමනි තාම පණ අදිනවා, තාම මැරුන් නෑ කිව්වා. ආ එහෙම නම් තවත් හුල් පහර සීයකින් ගිහිල්ලා ඇනපල්ලා කිව්වා. එතකොට දහවල් කාලයේ තව හුල් පහර සීයකින් මේ හොරාට අනිනවා. සවස් වෙලා රජ්ජුරුවන්ට ආයෙ මතක් වෙනවා මේ හොරා ගැන. අහනවා රාජ පුරුෂයෙනි, දැන් උදේ උල් පහර සීයකුත්, දවල් උල්පාරසීයකුත් ඇනුම් කාපු හොරා ඒකා තාම ජීවත් වෙනවාද. ඔව් රජතුමනි තාමත් ඒකා පන ඇද ඇද ඉන්නවා, තාමත් මැරුන් නෑ. ආ එහෙනම් රාජපුරුෂයෙනි උඹලා ආයෙ වතාවක් උල් පහර සීයකින් ඇනපල්ලා. උල් පහර තුන්සීයයි. බුදුරජාණන් වහන්සේ භික්ෂූන්ගෙන් අහනවා කිම මහණෙනි, හුල් පහර තුන්සීයකින් පහර කන ඒ පුරුෂයා බලවත් වේදනාවක් විඳින්නේ නොවේද, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, උල් පහර තුන්සීයක පහර කෑමේ වේදනාව ගැන කතා කරන්න දෙයක් නැහැ. එකම එක උල් පහරකින් පහර කෑමත් බලවත් වූ කරුණකි. එහෙව් එකේ උල් පහර තුන්සීයක වේදනාව ස්වාමීනී කතා කරන්නම දෙයක් නැහැ කිව්වා. බුදුරජාණන් වහන්සේ වදාළා මහණෙනි, යම් කෙනෙක් ඔබට මෙහෙම කිව්වොත්, නුඹට උදෑසන කාලයේ උල් පහර සීයක් අනිද්දි දහවල් කාලයේ උල් පහර සීයක් අනිද්දි, හවස් කාලයේ උල් පහර සීයක් අනිද්දි ඔය විදියට දිනකට උල් පහර තුන්සීය ගානෙ ඇනුම් කමින් ඒ වේදනාව උහුලාගෙන අවුරුදු සීයක් ඉන්න පුලුවන් නම්, දවසකට උල් තුන්සීයක් අනිනවා. ඒ වගේ දවස් 365 ක් ගතවුනාම ඔන්න අවුරුද්දයි. ඒ වගේ අවුරුදු සීයක් ගියපු තැන එතකොට හිතන්න දවස් කීයක් ද කියලා. ඒ වගේ අවුරුදු සීයක් ගියපු තැන ඔබට චතුරාර්ය සත්‍යය අවබෝධ වෙනවා, ඔබ සංසාරෙන් නිදහස් වෙනවා කියලා කෙනෙක් කිව්වොත් මහණෙනි, ඒකට වුනත් කැමැති වෙන්නයි තියෙන්නෙ. බලන්න ශාස්තෲන් වහන්සේ වදාළ කාරණය. දවසකට උල් පහර තුන්සීයක වේදනාව උහුලගෙන අවුරුදු සීක් ඉඳිද්දි නිකම්ම සංසාරෙන් නිදහස් වෙනවා කියලා කිව්වොත් ඒකට නම් කැමැති වුනාට කමක් නෑ කිව්වා. ඇයි මහණෙනි තථාගතයන් වහන්සේ එහෙම කියන්නෙ? මේ සාංසාරික ගමනේ දිගින් දිගට, දිගින් දිගට යද්දි විඳින්න තියෙන දුක මහණෙනි, දවසකට උල් පහර තුන්සීය ගානෙ අවුරුදු සීයක් උල් පහර කමින් ඒ විඳින දුකත් එක්ක සසඳද්දි, ඒ උල් පහර තුන්සීය ගානෙ පහර

කාලා විඳින දුක හරි ටිකයි කිව්වා. සංසාරෙ යන්න වුනොත් තියෙන දුකමයි වැඩි. ඒක මහණෙනි, හරියට හිමාල පර්වත රාජයාත් එක්ක චූටි ගල් කැටයක් වගේ. දවසකට උල් පහර තුන්සීයක පහර කමින් අවුරුදු සීයක් විඳින දුක චූටි ගල් කැටයක් තරම් නම් සංසාර ගමනේ දිගින් දිගට යන්න සිදුවෙද්දි විඳින්න වෙන දුක මේ හිමාල පර්වත රාජයා වගේ සුවිශාලයි. ඒ නිසා මහණෙනි, චතුරාර්ය සත්‍යය ධර්මයමයි අවබෝධ කරගත යුත්තේ ඒ සඳහා ප්‍රමාද වෙන්න එපා කියලා බුදුරජාණන් වහන්සේ අනුශාසනා කලේ, මොකද ඒකමයි ජීවිතයට තියෙන සැනසිල්ල. ඉතින් සෝමා තෙරණිය ඒ ගැන අහනවා, මාරයාගෙන්. මාරයා තණ්හාව සම්පූර්ණයෙන් නැති කරලා දාලා අවිද්‍යා කෙලෙස් කඳ පලා දැම්මා නම් මේ ස්ත්‍රියක්ය, පුරුෂයෙක්ය කියන කාරණය අදාළ වෙන්නෑ. මාරය ඔය කරුණේදී ඔබ දැනගන්න ඕන මේ ටික. නැසුනේ ඔබයි, පැරදුනේ ඔබයි. මම නොවෙයි කිව්වා. එතකොට මාරයා කල්පනා කලා, හරි වැඩේ සෝමා භික්ෂුණිය මාව දැනගත්තා නොවැ. සෝමා භික්ෂුණිය මා ඉදිරියේ මාව දැනගෙන මාව පරාජය කරන වචන පැවසුවා නොවැ. මට සෝමා භික්ෂුණිය ඉස්සරහා පරදින්න සිද්ධ වුනා නොවැ කියලා බොහෝම දුකට පත්වුනා. දුකට පත්වෙලා නොසතුටු වෙලා එතනම අතුරුදහන් වුනා. ඔන්න ඔය විදියට පින්වතුනේ රහතන් වහන්සේලාගේ ථෙර ගාථා ඉගෙන ගන්න කාලෙ ඇතැම් රහතන් වහන්සේලා මාරයාට තර්ජනය කරන හැටි ඉගෙන ගත්තා. විශේෂයෙන් අපේ මහාමොග්ගල්ලාන මහරහතන් වහන්සේ එහෙම භේසකලා වනයේදී මාරයාට තදට තර්ජනය කලානෙ. බලන්න රහතන් වහන්සේලා විතරක් නෙවෙයි තරුණ වයසේ හිටපු රහත් තෙරණිවරුත් ඔය විදියට ලෝකය වසඟ කරගෙන ඉන්න, ලොකයේ වසවර්ති මාරයාට තර්ජනය කලා. ඒ තමයි අසිරිමත් බුද්ධ ශාසනය. ඒ බුදු සසුනේ අමා නිවනේ සැනසුනු අපගේ සෝමා අර්හත් උත්තමාවියට වන්දනා කරමින් අපිත් අධිෂ්ටාන කරමු අපිටත් මේ ලැබිච්චි දුර්ලභ මනුස්ස ජීවිතේ කල්‍යාණ මිත්‍ර ඇසුරේ තෙරුවන් සරණ කරගෙන සුවසේ ගුණ දහම් දියුණු කරගෙන ආර්ය අෂ්ටාංගික මාර්ගය දියුණු කරගෙන චතුරාර්ය සත්‍යය අවබෝධයෙන් ලබන ඒ රහතන් වහන්සේලාත්, අර්හත් තෙරණිවරුත් නිවී සැනසුනු අමා මහ නිවනේ සැනසෙන්න අපි හැමදෙනාටත් වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලු පින් සියලු දෙවියෝ සතුටින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන් වෙන දෙවිවරු දිව්‍ය සැපයෙන්, දිව්‍ය ආශ්චර්‍යයෙන් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ රැකවරණ, දෙවියෝ අප හැමදෙනාටම සළසාදෙත්වා. සාදු

සාදු සාදු!!! ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට පින් අනුමෝදන්ව, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් නීරෝග සුව ලබත්වා, දීර්ඝායුෂ සම්පත් ලබත්වා. මේ ගෞතම බුද්ධ ශාසනය තුළ උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද ධර්ම දානය සිදු කරන පින්වතුන්ලාගේ ප්‍රධාන අරමුණ ලෙස සටහන් කොට ඇති පරිදි නො. 99/බී, මහගෝනදූව, මොරොන්තුඩුව යන ලිපිනයේ පදිංචිව සිට මාර්තු මාසයේ 15 වෙනි දින මීට මාස තුනකට පෙර මියපරලොව යන්න යෙදුනා වූ යුද හමුදාවේ සේවය කල, විශ්‍රාමලත් පින්වත් ජේ.මිල්ටන් සෙනරත් සමරසේකර පියාණන්ට මේ සියලු පුණ්‍ය ධර්මයෝ එකලෙසම අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. නමින් මියපරලොව ගියා වූ හෙන්ද්‍රික් සමරසේකර සීයාටත්, කුරුප්පුආරච්චිගේ සූරසේන සීයාටත්, ජේන් නෝනා ආච්චි අම්මාට සහ ස්වර්ණලතා සමරසේකර නැන්දාට මේ සියලු පින් අනුමෝදන් වෙලා නමින් මියගියා වූ සියලූම ඥාතීන්ගේ පරලොව ජීවිත සැපයටම පත්වෙත්වා. අපගේ ඥාතීන් මේ දුක්ඛිත සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදනා සිදු කරන්න. අද ධර්මදානය සිද්ධ කරන්නෙ, පින්වත් මාග්‍රට් නෝනා මැණියන්, ධර්ම දාන සාමාජිකා ඉතාලියේ පදිංචි ජී.නිලන්ති සමරසේකර දියණිය ඇතුළු පවුලේ සියලු දෙනත්, නිශ්ශංක සමරසේකර පුතණුවන්, නිරෝෂා සමරසේකර දියණිය, අනූෂා සමරසේකර දියණිය, නෙතලි සමරසේකර දියණිය සහ නිරෝෂණී සමරසේකර දියණියත් ඒ පවුල් වල සියලු දෙනාත්, මුණුපුරු මිණිපිරියන් විසිනුයි ධර්ම දානය සිදුකලේ. සුජීවත්ව සිටින මාග්‍රට් නෝනා මැණියන්ට සහ ලිසී නෝනා ආච්චි අම්මාට මේ සියලු පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙලා නිදුක් නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සම්පත් සැලසේවා. ධර්ම දානය සිදු කරන ඒ පින්වත් හැමදෙනාට සියලු පුණ්‍ය ධර්මයන් අනුමෝදන් වෙලා සියලුදෙනාගේ ජීවිත කිසී කරදරයකින් බාධාවකින් තොරව සුවසේ ගත කරන්න, රැකී රක්ෂා ආදී කටයුතු, දරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදිය සර්වප්‍රකාරයෙන් සාර්ථක කරගන්න අවකාශ ලැබෙත්වා. ධර්ම දානය සිදු කල පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත් ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සෑම සියලු දෙනාටත් සුපින්වත් ඔබ හැම දෙනාටත් තෙරුවන් සරණින්, සියලු දෙවියන්ගේ රැකවරණයෙන් සියලු යහපත උදාවේවා. ගෞතම ශාසනය තුළ සුවසේ පින් පුරාගෙන දහම දියුණු කරගෙන

ධර්මාවබෝධ කරන්න ඔබ හැමදෙනාට වාසනාව ලැබේවා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=eLqJ1CsdG1Y

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද දවසේ මේ උතුම් ධර්ම දේශනාවට දායකත්වයන් එකතු කරන්නෙ ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර වෙසෙන සැදැහැවත් පින්වතුන්ලා පිරිසක් විසින්. ඒ දායකත්වය දැරූ පින්වත් හැමදෙනාටත් සුජීවත්ව සිටින දෙමාපියන්ටත් නිරෝගී සුව සැලසේවා. නිරතුරුව ජීවිතයට උතුම් කල්‍යාණ මිත්‍ර ඇසුර ලැබේවා. ගෞතම ශාසනය තුළ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය සුවසේම අවබෝධ කරන්න ලැබේවා කියලා අදහසිනුයි ඒ පින්වතුන්ලා ධර්ම දානමය පින සිද්ධ කරන්නෙ. ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු කියන මේ දේශනා මාලාවේදී අපි ඉගෙන ගන්නෙ ගෞතම ශාසනය තුළ අමා නිවනේ සැනසුනු රහත් තෙරණිවරු ගැන. අද දවසේ මේ දේශනාවේදී පින්වතුනේ අපි අහන්නේ බුද්ධ ශාසනයේ මහා ශ්‍රාවිකාවක් ගැනයි. ඈ බුද්ධ ශාසනයේ අගතනතුරු ලැබුවා, මේ බුදුසසුනේ පෙර ජීවිත ගත කරන නුවණ උපදවාගත්තු පුබ්බේනිවාසානුස්සති ඤාණය, පුබ්බේනිවාසානුස්සති ඤාණය ඇති භික්ෂුණීන් අතර අග්‍ර වුනේ අපගේ භද්‍රාකාපිලානී අර්හත් උත්තමාවිය. අද පින්වතුන්ලා අහන්නෙ භද්‍රාකාපිලානී අර්හත් උත්තමාවියගේ ඒ අසිරිමත් චරිතාපදානය. ඒ චරිත කතාව ආරම්භ වෙන්නෙ පින්වතුනේ පදුමුත්තර බුද්ධ ශාසනයේ සිට. පදුමුත්තර බුද්ධ ශාසනය කියන්නෙ මීට කල්ප ලක්ෂයකට ඉහතදී ලෝකයේ ඇතිවුනේ. පදුමුත්තර බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ හංසවතී කියන නගරයේ විදේහ කියලා මහා සිටුවරයෙක් හිටියා. ඒ විදේහ කියන සිටුවරයාගේ

ආදරණීය සිටු බිරිඳ විදියටයි ඒ කාලෙ මෑ වාසය කළේ. හංසවතී විහාරයට අපගේ පදුමුත්තර බුදුරජාණන් වහන්සේ ශ්‍රී සද්ධර්මය දේශනා කරනවා. එතකොට මේ විදේහ සිටුවරයාගේ බිරිඳ වන මේ තැනැත්තිය නිතර බණ අහන්න යනවා. ධර්ම දේශනා ශ්‍රවණය කරනකොට, ශ්‍රවණය කරනකොට ඇගේ හිත හරී පැහැදුනා, ආසාවෙන් බණ අහන කෙනෙක් බවට පත්වුනා. මෙසේ ආසාවෙන් බණ අහනකොට දවසක් ඈට භික්ෂුණීන් වහන්සේලා මුණ ගැහුනා. ඒ භික්ෂුණීන් වහන්සේලා අතර හිටියා ඒ කාලෙ පුදුමුත්තර බුද්ධ ශාසනයේ භික්ෂුණී සංඝයා අතරේ පුබ්බේනිවාසානුස්සති ඥාණය ඇති භික්ෂුණීන්ට අග්‍ර වූ භික්ෂුණිය. ඒ අගතනතුර ලැබූ භික්ෂුණිය හම්බුනාට පස්සෙ ඔන්න ඇයට ආසාවක්, හිතක් උපදිනවා, මා හටත් මතු අනාගතේ බුදු සසුනක මේ භික්ෂුණිය වගේම අගතනතුර ලබන්න ඇති නම්. මතු අනාගතයේ බුදු සසුනක භික්ෂුණී සංඝයා අතරේ පැවිදි වෙලා පෙර ජීවිත ගත කරන ඥාණය ලැබූ තෙරණීන් අතර අග්‍ර වෙලා අනේ මටත් නිවන් සුව දකින්න ඇතිනම් කියලා ඔහොම හිතක් උපන්නා. ඉතින් ඒ සිතුවිලි පින්වතුනේ අපි තේරුම් ගන්න ඕන ඒවා මහා ශ්‍රාවක, ශ්‍රාවිකාවන්ගේ සිතුවිලි. ඒවා තියෙන්නෙ මේ බුද්ධ ශාසනයේ මහා ශ්‍රාවක ශ්‍රාවිකාවො ගැන සිත් පහන් කරගන්නයි. ඉතින් ඈ එහෙම හිතලා ඒ සිතුවිල්ලෙන් යුක්තව බොහෝ දන් පැන් පූජා කරගෙන පින් රැස් කරගත්තා, පදුමුත්තර බුදුරජාණන් වහන්සේ ජීවමානව වැඩ හිඳින තාක්. තුන්ලෝකාග්‍ර අර්හත් පදුමුත්තර සම්මා සම්බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙ, මේ විදේහ කියලා කියන්නෙ සිටුවරයෙක්, මහා ධනවතෙක්. ඈ තමන්ගේ ස්වාමිපුරුෂයත් එක්ක එකතු වෙලා බුදුරජාණන් වහන්සේගේ ධාතු නිධන් කරවා මහාසෑයක් කෙරෙව්වා. ධාතු නිධන් කොට මහාසෑය කරවනවා කියන්නෙ පින්වතුනේ බොහෝ දෙනෙකුට පින් රැස් කරගන්න අවකාශ සැලසීම. සෑ රජාණන් වහන්සේ නමක් ඉදිවුනාට පස්සෙ දෙවිවරුන් ඇවිදිල්ලා ඒ සෑය වඳිනවා. බ්‍රහ්මයෝත් ඇවිදිල්ලා සෑය වඳිනවා. සැදැහැවත් හැමදෙනා ඇවිදිල්ලා සෑය වඳිනවා. සෑය වැඳ වැඳ ජීවිතේට පින් පුරාගන්නවා. ඒ හැමදෙනාට පින් පුරාගන්න ඒ සෑරජාණන් වහන්සේ හේතුවෙනවා. එතකොට හිතන්න, සෑයක් කරවීමේ පින කොහොමද කියලා. බොහෝ දෙනෙකුට පින් පුරාගැනීම පිණිස සෑයක් කරවනවා කියන එකේ පින. දැන් අපේ දුටුගැමුණු මහාරජ්ජුරුවො විශාල කැපකිරීමක් කරලා මහා ධන පරිත්‍යාගයකින් යුක්තව ඉතා සුපූජනීය ලෙස ස්වර්ණමාලී මහාසෑරජාණන් වහන්සේ ඉදිකෙරෙව්වා. ඒ සෑ රජාණන් වහන්සේ ඉදිවුනාට පස්සෙ කීදෙනෙක් පින් පුරාගන්න ඇත්ද, සෑය මුල් කරගෙන. පස්සෙ ඒ සෑ රජාණන් වහන්සේ මේ මනුස්ස ලෝකෙ ගරා වැටෙනවා. දැන් මනුස්ස ලෝකෙ ගරා වැටුනාට උතුම්

ධාතු ගර්භය නිතර දෙවිවරු වන්දනා මානා කරගන්න ඇති. ඒ සෑ රජාණන් වහන්සේ ගරා වැටුනාට පස්සෙ ආයෙ එය ඉදිකෙරුනා. ඒ ඉදිකෙරෙනකොට මේ සිංහල මිනිස්සු, අපේ මුතුන් මිත්තො ඒකට ගොඩාක් කැපවුනා. කැපවෙලා තමයි ඔය අද දකින්න ලැබෙන විදියට සෑරජාණන් වහන්සේ ඉදිවුනේ. එතකොට මේ වෙනකොටත් කීදෙනෙක් තමන්ගේ ජීවිත වලට සැනසිල්ල එකතු කරගන්නවාද, මේ මනුස්ස ලෝකෙ විතරක් ස්වර්ණමාලි සෑය වැඳ වැඳ. දුර ඈත ඉඳලා නිවෙස්වල ඉඳලා සෑ රජාණන් වහන්සේ වඳිනවා. වඳින මොහොතක්, මොහොතක් පාසා ඒ සෑ කර්මාන්තයට දායක වෙච්චි අයට පින පිරෙනවා. ඒ නිසා සම්බුද්ධ ශාසනයක් ඇතුලේ බුදුරජාණන් වහන්සේ නමකගේ බුදු සසුනක් මුණගැහිච්ච ජීවිතේ කෙනෙකුට කරගන්න ලැබෙන දුර්ලභ පින්කමක් සෑ රජාණන් වහන්සේ නමක් කරවීම, සෑ රජාණන් වහන්සේ නමක් කරවන කටයුත්තකට දායක වීම, අපට අපේ මනුස්ස ජීවිතේ උතුම් කල්‍යාණමිත්‍ර ඇසුරක් මුණගැහුන නිසා මේ මෑතකාලයේ අපිට කොච්චර වාසනාවක් උදාවුනාද භාග්‍යවතුන් වහන්සේගේ උතුම් සෑරජාණන් වහන්සේලා කරවන්න. ඒ සෑරජාණන් වහන්සේලා කරවන කටයුතු වලට සෑය ඉදිවෙන්න උපස්ථාන කරන්න, ශ්‍රම පූජා කරන්න, ධන පූජා කරන්න, සාදු සාදු කියලා අනුමෝදන් වෙන්න, ඉතින් පින්වතුන්ලාට ඒ කටයුතු වලට සහසම්බන්ධ වෙච්චි පින්වතුන්ලාට බොහෝම හිත පහන් කරගන්න පුලුවන් මේ කරුණු කාරණා ශ්‍රවණය කරද්දි. ඉතින් ඔය විදියට පදුමුත්තර බුද්ධ ශාසනයේ මහා ධාතු සෑයක් කරවා පින් පුරාගත්තු ඒ පිරිස මරණින් මත්තෙ උපන්නා දෙව්ලොව. ඊටපස්සෙ ආයෙමත් වතාවක් මේ උත්තමාවියගේ චරිතාපදානය සඳහන් වෙන්නෙ යළි මුණගැහුනා කියනවා මීට කල්ප අනූඑකකට පෙර ලෝකයේ පහළ වෙච්චි විපස්සී බුද්ධ ශාසනයේ. විපස්සී බුදු සසුනේත් ස්ත්‍රියාවක්. බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරනකොට ධර්මයට හිත පැහැදුනා. නිතර නිතර ධර්මය ඇහුවා. පින් පුරාගත්තා. ඊටපස්සෙ මරණින් මත්තෙ ආයෙමත් දෙව්ලොව උපන්නා. දෙව්ලොව ඉපදිලා තවත් ජීවිතයක ස්වාමී භාර්යාව විදියට ඉපදිලා අර විදේහ සිටුවරයාත් එක්කම ස්වාමි භාර්යාව විදියට ඉපදුනා මේ සංසාරේ එද්දි. දෙන්නම එකතු වෙලා ඒ කාලෙ පසේබුදුවරුන්ගේ යුගයක්. පසේබුදුරජාණන් වහන්සේලා මුල් කරගෙනත් පින් පුරාගත්තා. එතකොට පේනවා පින්වතුනි, මේ සංසාර ගමනේ එනකොට පින් පුරන අයට, යළි යළිත් යළි යළිත් පින් රැස් කරගන්න අවකාශ ලැබෙන බව. ඒ නිසා මේ රැස් කරන පින කියන්නෙ අසිරිමත් එකක්. හැම කල්හි බුදුවරු පෙර පින් තිබීම කියන එක වර්ණනා කරන්නෙ අන්න ඒ නිසා. පෙර පින් තියෙනවා නම් යලි පින් රැස් කරගන්න අවකාශ ලැබේ. දැන් අපිට මේ ජීවිතේ පින් රැස්

කරගන්න අවකාශයක් ලැබී තියෙනවා, ඇයි ඒ මොකක් නිසාද. පෙර පින් තිබූ නිසා. පෙර පිනක් තිබූ නිසා මේ ජීවිතේ පින් රැස් කරගන්නවා. මේ ජීවිතේ පින් රැස් කරගත්තොත් යළි අනාගත ජීවිතයකට අපිට පෙර පින් තියෙනවා. එහෙම තමයි කෙමෙන් කෙමෙන් ජීවිතයක් පිනෙන් පිරී යන්නෙ. හැබැයි පින්වතුනි පින් රැස් කරගෙන වුනත් යන්න තියෙන්නෙ දුක පිරුණු සංසාර ගමනක, භයානක සසරක. ඒ සසරේ යද්දි වරදින වෙලාව නම් කියන්න පුලුවන් කමක් නෑ. පින් පුරාගෙන වුනත් මේ සසරේ යනකොට වරදින වෙලාව කියන්න පුලුවන් කමක් නෑ, සංසාරේ භයානකයි. ඒ නිසාමයි අපගේ මහා කාරුණිකයන් වහන්සේ නිතර නිතර වදාළේ, මහණෙනි තථාගතයන් වහන්සේ මොහොතක්වත් ඇහිපිය ගහන මොහොතක්වත් මේ සසර නම් වර්ණනා කරන්නෑ. මහණෙනි මේ දුක්ඛිත සංසාර ගමනින් නිදහස් වෙන්න. නිදහස් වෙන්න කියලා බුදුරජාණන් වහන්සේ ඇයි වදාළේ, සංසාරය හරි භයානක එකක්. ඒක හොඳට තේරෙනවා මේ උත්තමාවියගේ චරිතාපදානය ඉගෙන ගද්දිත්. ඔන්න මෙහෙම පින් පුරාගෙන එන ඇය එක ආත්ම භාවයක බරණැස් නුවර උපන්නා, තරුණ වයසට ආවට පස්සෙ ඇයව බොහොම යහපත් ස්වාමි පුරුෂයෙකුගේ නිවසට විවාහ කරලා දුන්නා. ඒ නිවසට ගිහිල්ලා නිවසේ කාලයක් ගතවෙනකොට ස්වාමිපුරුෂයාගේ නැගණියත් එක්ක මෑ නිතර නිතර කලහ කරගන්න පටන් ගත්තා. දැන් ඉතින් මේ බහින්බස් වීම් නිතර නිතර යනවා. දෙන්නා නිතර සණ්ඩුසරුවල්. ඔය අතරේ දවසක් මොකක් හරි කාරණාවක් මුල් කරගෙන හොඳට රණ්ඩුව ඇවිලිලා තියෙන වෙලාවේ. එහෙට මෙහෙට වචන කතා කරගන්න වෙලාවේ, ඒ කාලෙ පසේ බුදුරජාණන් වහන්සේලා වැඩ ඉඳලා තියෙනවා. පසේ බුදුරජාණන් වහන්සේ නමක් මාවතේ පිණ්ඩපාතෙ වැඩියා. මේ පසේබුදුරජාණන් වහන්සේ සාමාන්‍යයෙන් හැමදාම පිණ්ඩපාතෙ වඩින, මේ විදීයේ හැමදාම පිණ්ඩපාතෙ වඩින පසේ බුදුරජාණන් වහන්සේ නමක්. රණ්ඩුව අතරේ අර නංගී දැක්කා පසේ බුදුරජාණන් වහන්සේ පාරෙ වැඩම කරනවා. රණ්ඩුව නවත්තලා නංගි එකපාරම කිව්වා අන්න මාගේ පසේබුදුරජාණන් වහන්සේ වඩිනවා. මාගේ ශ්‍රමණයන් වහන්සේ, මට මේ රණ්ඩුවෙන් ඇති වැඩක් නෑ, මං උන්වහන්සේට දන් ටිකක් පූජා කරගන්න ඕන කියලා රණ්ඩුව නවත්තලා පාරට දුවගෙන ගිහින් කිව්වා, ස්වාමීනී ස්වාමීනී මොහොතක් නවතින්න, මම ඔබවහන්සේට දානෙ චුට්ටක් අරන් එන්නම්. දැන් මේක වුනේ රණ්ඩුව අතරේ. එතකොට මේ නංගිත් එක්ක පටලැවිලා හිටපු මේ කාන්තාව කේන්ති ගත්තා. ආ උඹ යනවෙන දන් පූජාකරන්න. මං උඹේ ශ්‍රමණයාට දානෙ පූජා කරන්නම් කියලා ඈ දුවගෙන ගියා, කිපුණු හිතින් පාර අයිනේ තිබුනා කුණු ගඳ ගහන මැටි, මැටි මිටක් අරගන මේ මැටි, මේ මඩ පසේ

බුදුරජාණන්වහන්සේගේ පාත්‍රයට දැම්මා. අර ජරා මඩ ටික පසේ බුදුරජාණන් වහන්සේගේ පාත්‍රයට දැම්මා. කා කෙරෙහි කිපිලාද, අර නංගි කෙරෙහි පිපිලා. කේන්ති ගියාම මිනිස්සු අමුතු වැඩ කරනවානෙ. කිපුණු හිත තියෙද්දිද මිනිස්සු අමුතු අමුතු වැඩ කරනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා කුද්දො වත්ථං නජානාති - කේන්ති ගියපු කෙනාට, කෝපය ඇවිස්සිච්ච කෙනාට අර්ථය තේරෙන් නෑ. කුද්දො ධම්මං න පස්සති - කේන්ති ගියපු කෙනාට ක්‍රෝධය ඇවිස්සිච්චි කෙනාට යහපත හොයාගන්න පුලුවන්කමකුත් නෑ. අන්ධං තමං තදා හෝති - ඒ නිසා මේ ක්‍රෝධය අවුස්සගත්ත තැනැත්තාට කිපුණු තැනැත්තාට අන්ධයාය කියා කිව්වාට වැරැද්දක් නැත. ඇස් පේන්නැති අන්ධයෙක් කරනවා වගේ මහා මෝඩ වැඩ කරගන්නවා. කිසි කල්පනාවක් නැති වැඩ කරගන්නවා කිපුණහම. දැන් මේ ස්ත්‍රියට වුනේ මෙහෙම එකක්. කේන්ති ගියා, කේන්ති ගියේ කා ගැනවත්, ක්‍රියාව කලේ කා ගැනවත්. පසේබුදුරජාණන් වහන්සේගේ පාත්‍රයට දැම්මානෙ අර කුණුගඳ ගහන මඩ. හැබැයි ඒ මඩ ටික දාපු ගමන් මේ ගෙදර ඇයො සැදැහැවත් පිරිසක්. ගෙදර පිරිස මේක දැක්කා. දැකලා ස්වාමිපුරුෂයා ඇතුලු නිවසේ පිරිස බනින්න පටන් ගත්තා මේ කාන්තාවට මේ මෝඩ තැනැත්තියක් නොවැ, මේ උතුම් ශ්‍රමණයන් වහන්සේගේ පාත්‍රයට මඩ දැම්මෙ, මේ වගේ පහත් තැනැත්තියක්. මේ ගෙවල් ඇතුලෙ තියෙන ගිනි ගේ ඇතුලෙ තියෙන්න එපැයි. ඒවා මේ උතුම් ශ්‍රමණයන් වහන්සේ උදෙසා මොකටද එකතු කලේ. මෙහෙම ඉතින් දෝෂාරෝපණය ආවා. දෝෂාරෝපණය එනකොට ඔන්න ඇට තිබ්බ වාසනාව අනෙක් අය දැන් බයිනකොට ඇයට කේන්ති ගියෙ නෑ, සිහිය උපන්නා. ඇයට සිහිය උපන්නා මං වැරැද්දක් කලා කියලා. ඒක විශේෂ වාසනාවක් කෙනෙකුට එහෙම වෙනවා නම්. සාමාන්‍යයෙන් කේන්ති ගිහිල්ලා කුපිත වෙලා වැරැද්දක් කරමින් ඉන්නකොට යම් කෙනෙක් වැරැද්ද පෙන්නද්දි ඇත්තනෙ, මේක මගේ වැරැද්දක්නෙ කියලා කෙනෙකුට තේරුම් ගන්න පුලුවන් නම් ඒක පින්වතුනි ජීවිතේකට එන ලොකු දක්ෂකමක්. වරද වරදක් විදියට පෙන්වා දෙනකොට වරදක් කියා දකින්න පුලුවන් හැකියාව, ඒක ජීවිතේට තියෙන විශේෂ දක්ෂකමක්, ඒක නුවණැත්තන්ට පිහිටන දක්ෂ කමක්, එපමණකින්ම නුවණැත්තා කියලා කිව්වට කමක් නෑ කියලයි භාග්‍යවතුන් වහන්සේ වදාළේ, යො බාලති මඤ්ඤති බාල්‍යයා, බාල තැනැත්තෙක් මෝඩ තැනැත්තෙක් තමන්ගේ මෝඩකම් ගැන මගේ මේ වැඩේ මහ මෝඩ වැඩක් කියලා දකිනවා නම් පණ්ඩිතොවාපි තෙන සො, එපමණකින්ම ඔහු නුවණැත්තෙකි. බාලොච පණ්ඩිතමානෙ, හැබැයි බාලයෙක් මෝඩයෙක් ඉන්නවා තමන් මහා අතිපණ්ඩිතයෙක් ය කියලා හිතාගෙන. සවෙ බාලො හොති වුච්ඡති, ඒකම

ඔහුගේ බලවත් මෝඩකම යැයි කියනවා. එහෙමයි භාග්‍යවතුන් වහන්සේ දේශනා කලේ අපි අපිව හඳුනාගන්න දක්ෂ වෙන්න ඕන. අපි කරන ක්‍රියාව බාල ක්‍රියාවක් ද, යහපත් ක්‍රියාවක්ද, ඒක අඳුනගන්න දක්ෂ වෙන්න ඕන. ඊළඟට යම් කෙනෙක් පෙන්නලා දෙනකොට ඒක නුවණින් තේරුම් ගන්න දක්ෂ වෙන්න ඕන. දැන් මේ ස්ත්‍රියට අන්න ඒ දක්ෂකම තිබුනා. තමන්ගේ අතින් වෙන්නේ වැරැද්දක් කියලා ඇය ඉක්මණින් අඳුනගත්තා. ඇය මොකක්ද කලේ, පසේබුදුරජාණන් වහන්සේට මේ වෙච්චි වැරැද්දට කමා කරගන්න ඕන කියලා හිතලා උන්වහන්සේගෙන් පාත්‍රය ඉල්ලා ගත්තා. අනේ ස්වාමීනී මගෙන් වෙච්චි වැරැද්දට මට සමාව දෙන්න, මා කෙරෙහි අනුකම්පාවෙන් පාත්‍රය මගේ අතට දෙන්න කිව්වා. පාත්‍රය නිවසට අරගෙන ගිහිල්ලා අර ගඳ ගහන මඩ අයින් කරලා ඒක හොඳට හේදුවා. හෝදලා සුවඳවත් කරලා ඊටපස්සෙ හොඳ ප්‍රණීත දානයක් පූජා කලා. දානෙ පාත්‍රය අරගෙන ගිහිල්ලා පසේබුදුරජාණන් වහන්සේගේ දෝතට පිළිගන්වනවා. පිළිගන්වද්දි කිව්වා අනේ ස්වාමීනී මං කිපුණු සිතින් කේන්තිය නිසා ස්වාමීනී, මං මෙහෙම එකක් කරගත්තෙ, මට ඔබවහන්සේගෙන් සමාව ලැබෙන්න ඕන. පසේබුදුරජාණන් වහන්සේ සමාව දුන්නා. සමාව දුන්නට පස්සෙ ඇයට හරි සතුටුයි. ඇය පුණ්‍ය ප්‍රාර්ථනාවක් කරනවා ස්වාමීනී, මම දැන් මේ මොහොතේ ඔබවහන්සේට දානයක් පූජා කලා. මේ දානය පිදූ පිනෙන් මට උපදින උපදින ආත්මයේ බොහෝම ලස්සන රූපයක් ලැබෙන්න ඕන, දුටු දුටුවන් වසඟ වෙන තරම් ලස්සන රූපයක් මට ලැබෙන්න ඕන කියලා ඇය ප්‍රාර්ථනා කලා. ස්ත්‍රීන් කොහොමත් රූපයට ආසයිනෙ. එතකොට ඇ ලොකුවට බණ දහම් අහලා තිබුනු ස්ත්‍රියක් නොවෙයි. පසේබුදුවරුන්ගේ යුගයක්නෙ. ඒ නිසා සාමාන්‍යයෙන් ස්ත්‍රීන් කැමැති දේකට ඇ කැමැති වුනා. පිණ්ඩපාතෙ දානෙ පූජා කරගෙනත් ඇ පැතුවේ රුවක්. රූපෙ පැතුවා. ඉතින් ඒ ජීවිතෙන් ඇ කාලක්‍රියා කරාට පස්සෙ ඇ යම් ජීවිතයක උපදිනවාද, උපදින උපදින ජීවිතේ ඇට ලැබෙනවා බොහෝම ලස්සන මනමෝහනීය රූපයක්. ඇගේ රුව ලස්සනයි. හැබැයි රුව ලස්සන වුනාට ඇගේ ශරීරයෙන් ඇගේ සිරුරෙන් ඉවසන්න බැරි තරම් දුර්ගන්ධයක් හමනවා. අශුචි ගඳක්, මඩ ගඳක්. හැමතිස්සේම ඇගේ සිරුරෙන් හමනවා. මේක එක වතාවක් වුනා නෙවෙයි පින්වතුනි, සාංසාරික ගමනේ උපදින උපදින ජීවිතේ බොහෝම ලස්සනයි රුව, රුව කොච්චර ලස්සන වුනත් ඒ ශරීරයෙන් හමන්නෙ ඉවසගන්න බැරි තරම් දුර්ගන්ධයක්. දැන් බලන්න මේ උත්තමයන් වහන්සේලා මුල් කරගෙන පූජනීය උතුමන් මුල් කරගෙන වෙන දේවල්. ඒ වගේ තියෙන භයානක කම. පසේබුදුරජාණන් වහන්සේ උදෙසා, ඒ පසේබුදුරජාණන් වහන්සේට වෙච්චි තමන්ගේ කයින් වෙච්චි වැරැද්ද, ඒ වැරැද්දට ඒ

මොහොතේත් සමාවත් අරගත්තා. හැබැයි සමාව අරගෙනත්, ඒක බලන්න සංසාර ගමනට එකතු වෙච්චි හැටි. ඒ නිසා හරී භයානකයි. මේවගෙන් අපි මොකක්ද තේරුම් ගන්න ඕන, අපි මේ ක්‍රියා කරනකොට කායික ක්‍රියා, වාචසික ක්‍රියා, මානසික ක්‍රියා කරනකොට අපි කොච්චර රැකෙන්න ඕනද කියන කාරණාව. ඒකයි මේකෙන් කෙනෙක් නුවණින් තෙරුම් ගත යුත්තෙ. අපි කොච්චර අපිව රැකගන්න ඕනද. අපිව කොච්චර ආරක්ෂා කරගන්න ඕනද කියන කාරණාව. දැන් මේ විදියට මේ කර්ම විපාකය පස්සෙන් ඇවිල්ලා ගඳ ගහන සිරුරක් ඇතිව ඈට එන්න සිද්ධ වුනා මේ මහා භද්‍ර කල්පය තෙක්ම. මේ මහා භද්‍ර කල්පයේ කාශ්‍යප අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ, අපේ බුදුරජාණන් වහන්සේට පෙර මිනිසුන්ගේ ආයුෂ අවුරුදු විසිදාහක්ව පැවැති යුගයේ කාශ්‍යප අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ පහළ වෙනකොට ඕන්න ඇය  එනවා මේ මනුස්ස ලෝකෙට. මනුස්ස ලෝකයේ ස්ත්‍රියක් විදියට උපන්නා, තරුණ වයසට එනකොට මනමෝහනීය රූපයක්. මනමෝහනීය රූපය තිබුනාට මැගේ ශරීරයෙන් හමන්නේ අශුචි ගඳක්. ඉතින් පුංචි කාලෙ ඉඳලා මැට ඒක දැනෙනවා. ඒ දැනෙනකොට ඉතින් නොයෙක් සුවඳ විලේපන වලින් ඇඟ සුවඳවත් කර කර, සුවඳවත් කර කර කොහොමහරි අර ගඳ වළක්වගෙන හිටියා, පස්සෙ ඇව විවාහ කරලා දුන්නා. විවාහ ජීවිතයේ ඈ බොහෝම යහපත් ගුණ සම්පත් ඇති ස්ත්‍රියක්. ඒ ගියපු නිවසේ දෙමව්පියො ඇතුලු හැමදෙනාම හරියට පැහැදුනා. පැහැදුනාට ස්වාමිපුරුෂයාට ඇව අප්පිරියයි. ඇයි ස්වාමිපුරුෂයා ඈට සමීප වෙලා ඉන්නවා. සමීප වෙනකොට ස්වාමිපුරුෂයාට අර අශුචි ගඳ ඈ ළඟින් එනවා. එතකොට ස්වාමිපුරුෂයාට රූපෙ කොච්චර ලස්සන වුනත් ගතිගුණ කොච්චර හොඳ වුනත් ඈ තමන්ගේ බිරිඳ විදියට ළඟ ඉන්න එක අප්‍රසන්න හැඟීමක් වුනා. නමුත් මේ ස්වාමිපුරුෂයාට මැගේ තියෙන යහපත් ගතිගුණ නිසා පවුලේ හැමදෙනාම මැයට ආදරේත් නිසා මැව එළවගන්න බෑ. ඒ නිසා ස්වාමිපුරුෂයා කලේ මැය නිවසේ ඉද්දීම වෙන වෙන කාන්තාවො ගෙන්නගෙන ඒ කාන්තාවොත් එක්ක අඹුසැමියො විදියට ඉන්නවා. විවාහක කාන්තාවකට ඒ වගේ අත්දැකීමකට මුහුණ දෙන්න සිද්ධ වුනොත් ඒක කොච්චර හදවතට වේදනාවක්ද. ඇය හරී දුකෙන් හිටියෙ. එහෙම දුක සේ ඇය ඉන්නකොට ඇයට ආරංචියක් එනවා, තිලෝගුරු කාශ්‍යප අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාලා ඒ බුදුරජාණන් වහන්සේගේ ධාතූන් වහන්සේලා තැන්පත් කොට මහාසෑයක් කරවනවා කියන ආරංචිය. සෑරජාණන් වහන්සේ නමක් කරවනවා කියන ආරංචිය ඈට ලැබුනා. ඇය අනුමෝදන් වුනා. අනුමෝදන් වෙලා කිව්වා සෑ කර්මාන්තයේ යම් කටයුත්තක් තිබුනොත් අපිට දායක වෙන්න අනේ අපටත්

කියන්න කිව්වා. ඔන්න එතකොට ඇයට ආරංචියක් එනවා ඒ උතුම් සෑරජාණන් වහන්සේගේ මතුපිට සම්පූර්ණයෙන් කරන්නෙ රන් ගඩොල් වලින් ලු. ඒ සඳහා රනින් ගඩොලක් කරවා පූජා කරන්න හැකිලු. ඇයට හරි සතුටක් උපන්නා. ඇය ගාව තිබුනා ගොඩාක් රන් බඩු. ඒ රත්තරන් ඔක්කොම තමන්ට කුල පරම්පරාවෙන් ලැබිච්චා. ඇය හිතනවා මේ කොච්චර ලස්සන රත්තරන් තිබුනත් මේ ස්වාමිපුරුෂයාට අප්‍රිය ශරීරය, ස්වාමිපුරුෂයා පිළිකුල් ශරීරය මං මේ ආභරණ වලින් සැරසුවා කියලා ඇති ඵලය මොකක්ද. ඒ නිසා මට මේ ආභරණ එකක්වත් එපා. මගේ ස්වාමිපුරුෂයාටවත් ප්‍රිය නැති මගේ ශරීරය මොකට සරසනවාද, ඒ නිසා මම මේ රන් භාණ්ඩ ඔක්කොම බුදුරජාණන් වහන්සේට පූජාවක් ලෙස පූජා කරන්න ඕන කියලා ඇය හිතුවා. ඔක්කොම රත්තරන් බඩු ටික ඔක්කොම සුවඳ පැනින් දෝවණය කරලා ශුද්ධ කරලා, ඇය රන්කරුවන්ට දීලා ඒ අවශ්‍ය දිග පළලට ඝන රන් ගඩොලක් කෙරෙව්වා, කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ සෑය උදෙසා. සෑරජාණන් වහන්සේට ගාඩොල කරලා, මේ ගඩොලත් අරගෙන ඒක පූජා කරන්න යනකොට ඈට මගදි හම්බෙනවා නිල්මහනෙල් මල්. ඈ නිල් මහනෙල් මලුත් ගත්තා. ඒ අරගෙන ගිහිල්ලා සෑරජාණන් වහන්සේගේ ඉදිකිරීම් උදෙසා රන් ගඩොල පූජා කරනවා, නිල් මහනෙල් මලුත් එක්ක. ඉතින් මේවා කියනකොට ඇතැම් පින්වතුන්ලාට සෑරජාණන් වහන්සේලාගේ ඉදිකිරීම් කටයුතු වලදී රන් පූජා කරපු පින්වතුන්ලා ඕන තරම් ඇති, මේ බණ පද අහන අය අතරේ. ඒ පින්වතුන්ලාගේ හිත ගොඩාක් සන්තෝෂ කරගන්න පුලුවන්. හිත ගොඩාක් සතුටු කරගන්න පුලුවන්. අනේ මේ අර්හත්වයට පත්වෙච්චි සංසාර ගමනේ නිවනට පත්වෙච්චි පින්වන්ත උත්තමයො උත්තමාවියො සසර ගමනේ කරගත්තු පින්කම් අනේ මේ ජීවිතේ අපිටත් කරගන්න වාසනාව ලැබුනානෙ කියලා. ඉතින් අර කාන්තාව ඔය විදියට රන් ගඩොල් පූජා කරලා භාග්‍යවතුන් වහන්සේ උදෙසා මේ භාග්‍යවතුන් වහන්සේගේ මහා සෑයට මේ රන්ගඩොල පූජා වේවා කියලා පූජා කරනකොට එසැණින් ආශ්චර්යයි පින්වතුනි පින කියන එක, එසැණින් අර සංසාර ගමනේ ආත්ම භාව ගණනාවක් මේ සිරුරේ තිබුනු දුර්ගන්ධය සම්පූර්ණයෙන් නැතිව ගියා. පසේබුදුරජාණන් වහන්සේ නමක් මුල් කරගෙන සකස් වෙච්චි ඒ පාපකර්මයේ විපාකය ඒ වෙලාවේ තමයි අවසන් වුනේ. බුදුරජාණන් වහන්සේ උදෙසා පූජාව කරපු වෙලාවේ ඒ පාප කර්මය අවසන් වෙලා ගියා. ඇගේ ශරීරයෙන් දැන් අර අශුචි ගඳ වෙනුවට ඈ පූජා කරපු නිල් මහනෙල් මලේ සුවඳ හමන්න පටන් ගත්තා. ඒ වෙලාවේම ඈ ඒ පූජාව කරන වෙලාවේම ස්වාමිපුරුෂයාට ඈ විවාහවෙලා හිටපු ස්වාමිපුරුෂයාට ඉතා තදින් ඈව මතක් වෙන්න පටන් ගත්තා. ස්වාමිපුරුෂයා

සේවකයින්ගෙන් අහනවා, මගේ ආදරණීය බිරිඳ කෝ? එතකොට සේවකයො ඈ ගැන කරුණු කාරණා කිව්වා. ස්වාමිපුරුෂයා සේවකයන්ව යවනවා මගේ බිරිඳව වහාම එක්කරගෙන එන්න කියලා. එතකොට එදා ඒ සේවකයො ගිහිල්ලා ස්වාමිපුරුෂයා ළඟට ඇව කැන්දාගෙන ආවා. එදා ඉඳලා ඇගේ විවාහ ජීවිතෙත් හරි සුන්දර එකක් වුනා. අර වේදනා මොකුත් නැතිව. සංසාර ගමනක තියෙන ස්වභාවය. බලන්න මේ පින් පව් එක්ක දෝලනය වෙවී යන සසර. පදුමුත්තර බුද්ධ ශාසනයේ ඉඳන් පින් රැස් කරගත්තා. එක ජීවිතයක තමන්ගේම ක්‍රියාවක් නිසා වැරදිලා පව් සිද්ධ වුනා. සසර ගමනක තියෙන භයානක කම. සංසාර ගමනක තියෙන අනතුර හොඳට තේරුම් ගත්තහැකි පින්වතුනේ මේ චරිතාපදාන අපි නුවණින් කල්පනා කරනවා නම්. ඉතින් ඔහොම සංසාර ගමනේ පින් පව් එක්ක දෝලනය වෙවී ආපු ඇය අවසාන ජීවිතේ ධ්‍යාන උපදවාගෙන මරණින් මත්තෙ බඹලොව තමයි ඉපදිලා හිටියේ. ඒ බ්‍රහ්ම ලෝකෙන් චුතවෙලා ඈ අපේ තිලෝගුරු අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ උතුම් බුද්ධ ශාසනය පවතින කාලයේ දඹදිව මද්ධ කියන දනව්වේ කපිල බමුණාටත් සුචිමතී කියන බැමිණියටත් දාව උපන්නා, ඇගේ නම භද්‍රාකාපිලානි. තරුණ වයසට එනකොට රන් රුවක් පරදන තරම් ඇගේ රුව ලස්සන වුනා. රන්රුවක් පරදින තරම් ඇගේ රුව ලස්සනයි. හැබැයි ඈ කාම පිස්සුවෙන් යුක්ත ස්ත්‍රියාවක් නොවේ. සාමාන්‍යයෙන් තරුණ වයසට එනකොට ස්ත්‍රීන්ට තියෙන සරාගී හැඟීමකුත් ඇයට නැහැ. හේතුව ඈ බ්‍රහ්ම ලෝකෙ ඉඳලා ආපු කෙනෙක් නිසා. ඇයට කාමයන් සම්බන්ධයෙන් ඇවිස්සිල්ලක් පිස්සුවක් නෑ. ඔය විදියට ඈ තරුණ වයසට එළඹෙනවා. තරුණ වයසට එළඹෙනකොට මේ කාලයේම මහා පින්වන්තයෙක්, මහා පින්වන්තයෙක් දඹදිව් තලයේ ඉපදී සිටියා, කවරෙක්ද ඒ? පිප්ඵලී මානවකයා. පිප්ඵලී මානවක කියන්නෙ අපේ මහාකස්සප මහරහතන් වහන්සේ. මහාකස්සප මහරහතන් වහන්සේගේ ගිහි කාලයේ නම පිප්ඵලී මානවක. ඒ කාලයේ පිප්ඵලී මානවකට රන්රුවකගේ සෝභාව පරදන ස්ත්‍රියාවක් සොයනවා. එතකොට මේ මද්ධ දනව්වේ කපිල බමුණාගේත් සුචිමතී බැමිණියගේත් භද්‍රාකාපිලානී නම් වූ සොඳුරු රුවැති දුව ඉදිරියේ අර රන්රුවේ සෝභාව පැරදී ගියා. භද්‍රාකාපිලානී පිප්ඵලී මානවකත් එක්ක විවාහ වුනා. ඒ විවාහ ජීවිතේ ගැන විස්තර මං හිතනවා බොහෝ දෙනෙක් අසා තිබෙනවා. විවාහ වෙච්චි දිනයේ පිප්ඵලී මානවකයා යහන් ගැබට, සිරියහනට අරගෙන එනවා පිච්ච මල් මාලා දෙකක්. මාලා දෙක අරගෙන ඇවිල්ලා යහන මැද දෙදෙනා නිදාගන්න මධ්‍යයේ ඇතිරෙව්වා. අතුරලා කියනවා නැගණිය මම විවාහ ජීවිතයකට අඹුසැමියෝ විදියට වාසය කරන ජීවිතයකට කැමැති

කෙනෙක් නෙවෙයි. නැගණිය මා කැමැති පාරිශුද්ධ බඹසරටයි. ඔබ මගේ බිරිඳ විදියට ඔබ සතුටුයි නම් බඹසරක් ආරක්ෂා කරන්න, පිරිසිදු බඹසරක්, සුදෝසුදු බඹසරක්, පාරිශුද්ධ සංඛයක් වගේ කැළැල් නැති බඹසරක් ඔබ කැමැති නම් ආරක්ෂා කරන්න අපි දෙන්නම බඹසර ඉමු. අපි මේ විවාහ ජීවිතයක් ගත කරනවා කියලා ලෝකයා දැනගත්තට කමක් නෑ. නැගණිය අපි බඹසර ඉමු කිව්වා. එතකොට බ්‍රහ්ම ලෝකෙන් ආපු මැය, ඇයත් ඊට සතුටුයි. ඇය කියනවා අයියණ්ඩි, ඇත්තෙන්ම මාත් හිටියේ ඔය අදහසින්. මගේ දෙමව්පියන්ගේ ඉල්ලීම බැරිකමටයි මං ඔබේ බිරිඳ විදියට ඔබේ නිවසට ආවෙ. ඔබ සතුටු බඹසරට නම් මාත් අතිශයින්ම සතුටු බඹසරටයි. පුදුම සහගතයි, විශ්මයජනකයි පින්වන්තයන්ගේ ජීවිත නම්. ඒ ජීවිත තියෙන්නේම හිත සතුටු කරගන්න. පින්වන්තයන්ගේ ජීවිත තියෙන්නෙ අපිට අනුමෝදන් වෙලා සතුටු වෙලා අපේ හිත් පහදවාගන්න. ඔය විදියට තමයි ඒ දෙන්නා විවාහ ජීවිත ගත කලේ. ඒ ගතකරනකොට අධිෂ්ටානයක් කලානෙ පිරිසිදු බඹසරට. නැගණිය යම් දවසක මේ සිරියහනේ සැතපෙන අපි දෙන්නා රාග සිතිවිලි ඉපැද්දුවොත් රාග හිතක්වත් ඇතිවුනොත් මේ යහන මැද අතුරන මල් පරවේවා. හැබැයි අපි රාග හිතක්වත් උපද්දන්නැතිව පිරිසිදු නොකැළැල් බඹසරක් ආරක්ෂා කරනවා නම් ඒ බඹසරේ ආනුභාවයෙන් මේ මල් මාලා පර නොවේවා. අද්භූතයි ඒ මල් පරවුන් නෑ. ගෘහ ජීවිතය ගත කරන තාක් ඒ මල් පරනොවී ඒ සිරියහන මැද අතුරලා තිබුනා. ඉතින් ඒ විදියේ හිතාගන්න බැරි විදියේ විශ්මයජනක විදියට තමයි ගිහි ජීවිතය ගතවුනේ භද්‍රාකාපිලානි කියන මේ පින්වන්ත උත්තමාවියගේ. ඉතින් කාලයාගේ ඇවෑමෙන් පිප්ඵලී මානවකගේ දෙමව්පියෝ කාලක්‍රියා කරනවා. මුලුමහත් ධනස්කන්ධයේම උරුමක්කාරයා වුනා පිප්ඵලී මානවක. එතකොට පිප්ඵලී මානවක කල්පනා කරනවා දැන් මේ ධනය වෙන අයිතිකාරයෙක් වෙන උරුමක්කාරයෙක් නැති දෙයක්, මටයි අයිති. මං කැමැති දෙයක් කරන්න පුලුවන්. මං මේ ධනය මගේ බිරිඳට පවරලා මං පැවිදි වෙන්න ඕන. භද්‍රාකාපිලානිට කතා කරලා කියනවා මා ප්‍රිය සොඳුර මා සතු ධනය ඔක්කොම ඔබට පවරනවා. ඔබ මේ ධනයෙන් සුවසේ ජීවිතය ගත කරන්න, මං මහණ වෙනවා කිව්වා. එතකොට භද්‍රාකාපිලානී ඒකට කැමැති වුන් නෑ. භද්‍රාකාපිලානී කියනවා ඔබ පැවිදි වෙනවා නම් මාත් පැවිදි වෙනවා. අර තිබුනු ධනය ඔක්කොම දන් දීලා මේ දෙන්නා පැවිදි වුනා. නිවසේදීම පැවිදි වුනා. යම් ඒ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් මේ ලෝකයේ පහළ වී සිටිත්ද ඒ සියල්ල අවබෝධ කල බුදුරජාණන් වහන්සේ උදෙසා මාගේ පැවිද්ද වේවා කියලා පිප්ඵලී මානවක නිවසේදීම කෙස් රැවුල් ඉවත් කරලා පැවිදි වෙනවා. ඉතින් ඔහුගේ පැවිද්ද දෙස බලාගෙන භද්‍රාකාපිලානියත් කෙස් ඉවත්

කරලා කාසාය වස්ත්‍ර පොරවලා යම් පැවිද්දකට පත්වුනා. ඒ පැවිද්දට පත්වෙලා තමයි දෙන්නාම නික්මුණේ. නික්මෙණකොට මේ කාලෙ වෙද්දි පින්වතුනේ බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ භික්ෂුණී සංඝයා ආරම්භ වෙච්චි කාලෙ නෙවෙයි. ඉතින් මේ පිප්ඵලී මානවකත් භද්‍රා කාපිලානිත් යම් දුරක් යනකොට දෙමං හන්දියක් හම්බුනා. ඒ දෙමං හන්දියේදී පිප්ඵලී මානවක කියනවා, මා ප්‍රිය සොඳුර දැන් අපි පැවිදි වෙලා. ගෘහ ජීවිතය අත්හැරපු අය. ගෘහ ජීවිතය අත්හැරපු අයට ස්වාමි භාර්යා කියලා සම්බන්ධයක් නෑ. ඔබත් මාත් මේ විදියට එකට යන්න පටන් ගත්තොත් එහෙම දකින අයගේ හිත් අපහදින්න පුලුවන්. දකින අයට වැරදි හැඟීම් ඇතිවෙන්න පුලුවන්. ඒ නිසා මේ දෙමංහන්දියෙන් මත්තේ අපිදෙන්නාට එකට ගමනක් නැත. ඔබ යම් මාවතක් කැමැති ද ඒ මාවත ඔබ තෝරාගන්න. මං ඔබ නොයන මාවතේ මං යනවා කිව්වා. එතනදි දෙන්නා වෙන්වුනා. ඒ දෙදෙනාගේ වෙන්වීම ගැන අපේ දහම් පොත් වල සඳහන් වෙනවා, සාංසාරික ගමනේ එක දිගටම ආපු දෙන්නෙක්. එක දිගටම ස්වාමි භාර්යා විදියට ආපු දෙන්නෙක්. ඒ දෙදෙනාගේ වෙන්වීම සිද්ධවෙන මොහොතේ මේ මහීකාන්තාව කම්පා වුනා කියනවා. පොළොව හෙල්ලිලා ගියා. ඉතින් භද්‍රාකාපිලානී අන්‍ය තීර්ථක පිරිවැජි කාන්තාවො හිටපු තැනකට ගිහිල්ලා එතන බඹසරක් ආරක්ෂා කරගෙන ඈ ඒ තීර්ථක ආරාමයේ ඈ වාසය කලා. මොකද ඒ වෙනකොට භික්ෂුණී සංඝයා ආරම්භ වෙලා නැති නිසා. පිප්ඵලී මානවක ගෞතම අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක භාවයට පත්වෙලා දින අටක් ඇතුලේ මහරහතන් වහන්සේ නමක් බවට පත්වුනා. අපගේ මහාකස්සප මහරහතන් වහන්සේ. පස්සෙ කාලෙක අපගේ මහාප්‍රජාපතී ගෞතමී උත්තමාවිය ඇතුලු පන්සීයක් දෙනා මේ බුද්ධ ශාසනයේ පැවිද්ද ලබාගෙන භික්ෂුණී සංඝයා ආරම්භ වුනා කියන ආරංචිය භද්‍රාකාපිලානි කියන මේ පින්වතියට ලැබෙනවා. බුදුරජාණන් වහන්සේ දැන් කාන්තාවන්ටත් පැවිද්ද ලබාදෙනවාලු. භික්ෂුණී සංඝයා ආරම්භ වෙලාලූ කියන ආරංචියත් එක්ක ඇය අර තීර්ථක ආරාමය අත්හැරලා ඒ ගෞතම අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ උතුම් බුද්ධ ශාසනයේ මහා ප්‍රජාපතී ගෞතමී අර්හත් උත්තමාවිය සමීපයේ පැවිදි වුනා. ඉතින් ඈ පිරිසිදු බඹසරක් ආරක්ෂා කරපු, සරාගී නැති බොහොම සුන්දර ජීවිතයක් ගත කලානෙ ගිහි කාලෙම. වැඩි කාලයක් ගත වුන් නෑ, ඈ පැවිදි වෙලා නොබෝ කලකින්ම සියලු කෙලෙසුන් නසා අර්හත් තෙරණියක් බවට මැය පත්වුනා. ඒ භද්‍රාකාපිලානී අර්හත් තෙරණිය මේ බුද්ධ ශාසනයේ විශේෂ අගතනතුරක් ලැබුවා, බුදුරජාණන් වහන්සේ භික්ෂු භික්ෂුණී උභතො සංඝයා මැද ඇයට අගතනතුරු ප්‍රධානය කලා. ඒත දග්ගං භික්ඛවෙ මම

සාවිකා නං භික්ඛුණී නං පුබ්බේ නිවාසං අනුස්සරංතීනං යදිදං භද්දාකාපිලානි, මහණෙනි මේ භද්දාකාපිලානී වනාහි පෙර ජීවිත ගැන සිහි කිරීමේ කුසලතා ඇති භික්ෂුණීන් අතරින් අග්‍ර භාවයට පත්වන්නේය කියලා ගෞතම ශාසනයේ අග තනතුර ලැබුනා. පදුමුත්තර බුද්ධ ශාසනයේ සිට පතාගෙන ආපු ඒ පුණ්‍ය ප්‍රාර්ථනාව ගෞතම ශාසනයේදී ඔන්න ඔය විදියට සඵල වුනා. ඒ අර්හත් උත්තමාවිය නිකෙලෙස් හදවතක් දරාගෙන මෙන්න මේ ගාථා මේ විදියට වදාළා. උත්තො බුද්ධස්ස දායාදො කස්සපො සසමාහිතො පුබ්බේනිවාසංයො වේදේ සග්ගා පායං ච පස්සති - මහා කාශ්‍යප ශ්‍රාවකයන් වහන්සේ බුදු සමිඳුන්ගේ දායාදයක්. බුදු සමිඳුන්ගේ පුත්‍ර රත්නයක්. සමාහිත සිත් ඇති උන්වහන්සේ පෙර ගත කළ ජීවිත ගැනත් ස්වර්ගය ගැනත් අපාය ගැනත් දිව්‍යැසින් දකිනවා. අථො ජාතික්කයං පත්ථො අභිඤ්ඤා වොසිතො මුණි ඒතාහිතෙහි විජ්ජාහි තේවිජ්ජො හොති බ්‍රාහ්මණො - උන්වහන්සේ ඉපදීම ක්ෂය වෙලා අර්හත්වයට  පත්වෙලා ඉන්නෙ. ත්‍රිවිද්‍යාව ලබාගෙන ඉන්නෙ. උන්වහන්සේ සැබෑවටම බ්‍රහ්මයෙක්. තතෙව භද්දා කාපිලානි තේවිජ්ජා මච්ඡු හායිනි ධාරෙති අන්තිමං දේහං ජෙත්වා මාරං සවාහිණිං - මේ භද්දාකාපිලානිත් ඒ වගේමයි. ත්‍රිවිද්‍යාව ලබාගෙන ඉන්නෙ. සේනා සහිත මාරයාව පරදවලයි ඉන්නෙ. දැන් ඈ දරාගෙන ඉන්නෙත් අන්තිම සිරුරයි. බලන්න පින්වන්තයන්ගේ ජීවිත වල තියෙන ඒ සුන්දරත්වය. පින් රැස් කරගෙන ආපු ජීවිත. පින් රැස් කරගෙන ආපු ජීවිත මහා සත්පුරුෂ රත්නය වන තිලෝගුරු ගෞතම අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ උතුම් බුද්ධ ශාසනයේ පිනෙන් මුහුකුරා ගියා. ස්වාමී භාර්යා විදියට එකට හිටපු දෙන්නෙක් බුද්ධ ශාසනයේ පැවිදි වෙලා රහතන් වහන්සේලා අර්හත් තෙරණිවරු බවට පත්වුනා. මේ බුදු සසුන කොයිතරම් සුන්දරයිද. අපිට කොයිතරම් හිත් පහදවාගන්න පුලුවන්ද මේ බුද්ධ ශාසනය ගැන. මේ බුද්ධ ශාසනය ගැන හිත් පහන් කරගන්න ගමන් පින්වතුනේ පින් රැස් කරගැනීමේ වටිනාකම ගැනත් හොඳට හිත ඇතුලේ අදහසක් ඇති කරගන්න, මොකද අපිට මේ චරිතාපදානය ඉගෙන ගන්නකොට තේරෙනවා මේ ඔක්කොම පින්වන්ත චරිත නිර්මාණය වෙලා තියෙන්නෙ සාංසාරික ගමනක පින් පුරලා. සාංසාරික ගමනක බොහෝ සේ කාලයක් පින් පුරලා තමයි ඒ ජීවිතේ නිර්මාණය වෙලා තියෙන්නෙ. එකපාර නිර්මාණය වෙච්චා නෙවෙයි. කල්ප ලක්ෂයකට ඈත ඉඳලා පින් පුරාගෙන ඇවිල්ලා. දැන් අපේ මහා කස්සප මහරහතන් වහන්සේ ගත්තත් මේ කල්ප ලක්ෂයකට ඉහත ඉඳලා පින් පුරාගෙන ආවෙ. එහෙම පින් පුරාගෙන ඇවිල්ලා තමයි මේ ගෞතම ශාසනය සෝභමාන කරපු රහතන් වහන්සේ නමක් බවට පත්වුනේ භද්‍රා කාපිලානි අර්හත් උත්තමාවිය ගත්තත්

ඒ මහා දීර්ඝ කාලයක් සංසාරයේ සිත කය වචනයෙන් පින් පුරාගෙන ඇවිල්ලා ඒ පින මුහුකුරා ගිහිල්ලා උතුම් අර්හත් උත්තමාවියක් බවට ඔය විදියට පත්වුනා. දිස්වා ආදීනවං ලෝකෙ උභො පබ්බජිතා මයං අයං හා කීනාසවා දන්තා සීතිභූතම්හ නිබ්බුතාති - අපි දෙන්නම මහණ වුනේ සංසාරයෙ ආදීනව දැකලා. අපි දෙන්නාම දමනයට පත්වුනා. අර්හත්වයට පත්වුනා. සිහිල් වුනා, නිවුනා. කාමයන්ගේ ආදීනව දැකලා මේ සංසාර ගමනේ තියෙන ආදීනවය දැකලා දෙන්නාම පැවිද්ද තෝරගත්තා කියනවා. දෙන්නාම පින් රැස් කරගෙන ආපු දෙදෙනෙක් නිසා නුවණින් කල්පනා කරනකොට දෙදෙනාගේම අදහස් ගැලපී ගියා. බලන්න පිනක් විසින් ජීවිතේ නිර්මාණය කරලා දෙන විදිය. දැන් ඇතැම් වෙලාවට ඕන තරම් අවස්ථා තියෙනවා ස්වාමි පුරුෂයා කැමැතියි බඹසර රකින්න, බිරිඳ කැමැති නෑ. එතකොට ස්වාමි පුරුෂයාටත් බෑ තමන්ගේ බඹසර ආරක්ෂා කරගන්න. සමහර වෙලාවට බිරිඳ කැමැතියි බඹසර ජීවිතයක් ආරක්ෂා කරගන්න. ස්වාමිපුරුෂයා කැමැති නෑ. එතකොට පවුල් ජීවිතේ අඩාල වෙන නිසා බිරිඳට බැරිව යනවා තමන්ගේ බඹසර ආරක්ෂා කරගන්න. එතකොට තේරෙනවා එතනදි මේ පිනේ දෝෂයක් තියෙනවා, ඒ දෙන්නා පෑහුන් නෑ. හැබැයි මේ පින් රැස් කරගත්ත ජීවිත, එක්කෙනෙක් පිරිසිදු බඹසරක් ආරක්ෂා කරන්න හිතක් උපද්දනකොට අනිත් කෙනා ඒ හා සමානම හිතක් උපද්දනවා. පාරිශුද්ධ බඹසරක් ආරක්ෂා කරන්න. ඒ නිසා පින්වතුනේ පින ගැන හොඳට තේරුම් ගන්න. මේ පින් රැස් කරගෙන පිනෙන් පරම සැපයට පත්වෙච්චි ජීවිත ගැන හොඳට හිත පහදවාගන්න. ඒ පහදවාගෙන පින් රැස් කරගෙන සංසාර ගමනින් නිදහස් වීම පිණිස තමන්ගේ ජීවිත හැඩගස්වා ගන්න මහන්සි වීමයි අපි කළ යුත්තෙ. අපිටත් ඒ මහාකස්සප මහරහතන් වහන්සේ, භද්‍රාකාපිලානී අර්හත් උත්තමාවිය ආදී ඒ උතුම් රහතන් වහන්සේලා රහත් තෙරණිවරු නිවී සැනසුනු අමා මහ නිවනේ සැනසෙන්න වාසනාව ලැබේවා, සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අපි අනුමෝදන් කරමු සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරු, සෙන්පති දෙවිවරු ප්‍රධාන සියලු දෙවියෝ සතුටින් පින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන් වෙන දෙවියෝ දිව්‍ය සැපයෙන් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ ආශිර්වාද රැකවරණ අපි හැමදෙනාට දෙවියෝ නොඅඩුවම සලසා දෙත්වා, දෙවියෝද සසර දුකින් අතමිදේවා. සාදු සාදු සාදු!!! ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට පින් අනුමෝදන්ව පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වෙත්වා, නීරෝග වෙත්වා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා, ගෞතම ශාසනය තුළ උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව

ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අද ධර්ම දානමය පින්කම සිදු කරන ඒ ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර වෙසෙන සැදැහැවත් පින්වතුන්ලාගේ නමින් මියපරලොව යන්න යෙදුනා වූ දෙමව්පියන් ඇතුළු සියලු ඥාතීන්ට හිත මිත්‍රාදීන්ට පින් පෙත් අනුමෝදන්ව ඒ ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා. අපගේ ඥාතීන් මේ දුක්ඛිත වූ සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනාව සිදු කරන්න. ධර්ම දානමය පිනේ අනුහසින් තෙරුවන් සරණින් සියලු දෙවියන්ගේ රැකවරණින් කොරෝනා වෛරසය හේතුවෙන් රෝගාතුරව සිටින ලංකාවාසී ලෝකවාසී හැමදෙනාට ඉතා ඉක්මණින් නිදුක් නිරෝගී සුව ශාන්තිය ලැබේවා කියලා අපි ඉතසිතින් ප්‍රාර්ථනා කරමු. දායකත්වයන් දරනු ලබන ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර වෙසෙන ඒ සැදැහැවත් පින්වතුන්ලාටත් ඒ අයගේ සුජීවත්ව සිටින දෙමව්පියන්ටත් මේ සියලුම පින් අනුමෝදන් වෙත්වා. පවුල්වල හැමදෙනාට පින් අනුමෝදන්ව සියලු දෙනාට නිදුක් නිරෝග සුව සැලසේවා. දීර්ඝායුෂ සැලසේවා. ජීවිතයේ කරන කියන රැකී රක්ෂා ආදී සියලු කටයුතු සර්වප්‍රකාරයෙන් සාර්ථක වේවා. මේ ලැබිච්චි මනුස්ස ජීවිතේ කල්‍යාණ මිත්‍ර ඇසුරේ සුවසේ පින් පුරාගන්නට සුවසේ දහම් මග දියුණු කරගන්නට හැමදෙනාට අවකාශ ලැබෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාට, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ හැමදෙනාට සුපින්වත් ඔබ සෑම සියලු දෙනාට ගෞතම ශාසනයේ සුවසේම ධර්මාවබෝධ කරන්න වාසනාව ලැබේවා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=qbHE-J8jfQQ

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද මේ දේශනාවට දායකත්වයන් දරනු ලබන්නේ මැලේසියාවේ සේවයේ නියුතු පින්වත් චතුරිකා වන්නිනායක දියණිය

නිකවැරටිය පදිංචි රිද්මිණී වන්නිනායක දියණිය, නිට්ටඹුවේ පදිංචි ඉසුරු වන්නිනායක පුතණුවන් ඇතුලු පවුලේ සියලුම දූදරුවන් විසිනුයි ධර්ම දානය සිදු කරන්නේ ප්‍රධාන අරමුණ ලෙස සඳහන් කරනවා නිට්ටඹුව හුඹුටියාවේ නො.217/3ඒ නිවසේ පදිංචි ජනවාරි හයවෙනි දිනට උපන්දිනය සැමරූ විශ්‍රාමික විදුහල්පති පින්වත් එම්.ඩබ්. හේරත් වන්නිනායක පියාණන්ට සහ ජූනි මාසයේ 18 වෙනි දින උපන්දිනය සමරන විශ්‍රාමික පාඨශාලාචාරිනී පින්වත් ඩී.එම්. නයනාකාන්ති මෑණියන්ට නිදුක් නිරෝග සුව සැලසේවා. දීර්ඝායුෂ සැලසේවා කියන ප්‍රාර්ථනාවෙන් යුක්තව ඒ තමන්ගේ ආදරණීය දෙමාපියන්ට සෙත් පැතීම පිණිසයි දරුවන් විසින් ඒ ධර්ම දානමය පින්කම අද දවසේ සිදු කරන්නේ ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු ගැනයි අපි මේ දේශනා මාලාවේදී ඉගෙන ගන්නෙ. අද අපිට ඉගෙන ගන්න තියෙන්නෙ පින්වතුනේ ථෙර, ථෙරී ගාථා පොත් වහන්සේගේ ථෙරී ගාථා කාණ්ඩයේ පඤ්චක නිපාතයේ එක්තරා තෙරණියකගේ ගාථා. ඒ තෙරණිය සම්බන්ධයෙන් මේ දහම් පොතේ සඳහන් වෙන්නෙ එක්තරා තෙරණියක් කියලා. අටුවා පොත් වහන්සේ තුළ වුනත් ඒ තෙරණියගේ නමේ සඳහනක් නෑ. හැබැයි ඒ තෙරණිය සම්බන්ධයෙන් මෙහෙම විස්තරයක් තියෙනවා. මේ තෙරණිය ප්‍රජාපතී ගෞතමී බිසවගේ කිරිමව් වූ තැනැත්තිය. එතකොට ප්‍රජාපතී ගෞතමී උත්තමාවිය කියලා කියන්නෙ අපේ සිද්ධාර්ථ මහබෝසතාණන් වහන්සේ රැක බලාගත්ත මෑණියන්නෙ. ඒ ප්‍රජාපතී ගෞතමී බිසවගේ කුඩා අවධියේ කිරිමෑණියෝ බවට පත්වෙලා හිටියෙ මේ තැනැත්තී. එතකොට මේ කිරිමව් වූ තැනැත්ති ඒ පවුලට සම්බන්ධ වෙලා ඒ දේවදහ නුවර රජපවුලට සම්බන්ධ වෙලා ඒ රජපවුලේ කිරිමවක් විදියට කටයුතු කරපු කෙනෙක්. කොහොමහරි ප්‍රජාපතී ගෞතමී බිසවත් එක්ක ඒ කිරිමව් වශයෙන් තිබ්බ සම්බන්ධය දිගටම තියෙන්න ඇති. ප්‍රජාපතී ගෞතමී උත්තමාවිය බුද්ධ ශාසනයේ පැවිදි වුනාට පස්සෙ ඇයටත් මේ බුදුසසුනේ පැවිද්ද ලබන්න ආසාවක් ඇතිවෙලා තියෙනවා. නිතර භික්ෂුණීන්ව ඇසුරු කරලා තියෙනවා. ඒ නිතර නිතර භික්ෂුණීන් ඇසුරු කරනකොට බොහොම වයසට ගිහිල්ලා ඉද්දි, දැන් සාමාන්‍යයෙන් ප්‍රජාපතී ගෞතමී තෙරණියගේ කිරිමව කියලා කියන්නෙ ප්‍රජාපතී ගෞතමී උත්තමාවිය පැවිදිබිමට පත්වෙනකොටත් ඇය වැඩිහිටි තැනැත්තියක්නෙ. එතකොට කිරිමව, ඒ කිරිමව වෙච්චි කෙනා ඉතින් කොහොමත් වයසක කෙනෙක්. වයසට ගිහිල්ලා තමයි පැවිදි වුනේ. හැබැයි එහෙම වයසට ගිහිල්ලා පැවිදි වෙලා ඇයට හරි අමාරු වෙලා තියෙනවා ධර්ම මාර්ගය දියුණු කරගන්න. ඒ සම්බන්ධයෙන් ථෙරී

ගාථාවේ සඳහන් වෙනවා, මං මහණ වෙලා අවුරුදු විසිපහක් වෙන්න ගියා. පැවිද්දට පත්වෙලත් විසිපස් අවුරුද්දක් ඔහේ ගෙවිලා ගියා. මට අසුරක් ගහන මොහොතක වෙලාවක්වත් සමාධිගත සිතක් ලබාගන්න බැරිවුනා. අසුරක් ගහන මොහොතක් කියලා කියන්නෙ අකුණු සැරයක් ගහන වෙලාවක් වගේ බොහොම ක්ෂණික මොහොතක්, සුළු මොහොතක්. එහෙම සුළු මොහොතක්වත් චිත්ත සමාධියක්, චිත්ත සමථයක්, කුසල් හිතක එකඟ බවක් ඇයට ලබාගන්න බැරිව ගියා. ඉතින් කුසල් හිතක එකඟ බවක් සුළු මොහොතක් වත් ලබාගන්න බැරිවුනා කියලා කියන්නෙ හරි වෙහෙසකර කාරණාවක් පැවිද්දක් ගත කරන කෙනෙකුට. කුසල් හිත අඛණ්ඩව පවත්වා ගනිද්දි සමථයක් තියෙන කෙනෙකුට ඒක හරී පහසුවක්. සමථයක් නැත්නම් ඒක ඉතා දුක සේ, දුක්ඛා පටිපදා, දුක් වූ ප්‍රතිපදාවක් ඒ උත්තමාවියට තිබිලා තියෙන්නෙ නිතර පීඩා විඳින්න වෙනවා, කාම හිතුවිලි එනවා, තරහ හිතුවිලි එනවා, සිත විසිරෙනවා, නිදිමත එනවා, මේ හැම එකකින්ම පීඩා විඳ විඳ තමයි අවුරුදු විසිපහක් ගතවෙලා තිබ්බෙ. හැබැයි ඒ විසිපස් අවුරුද්ද ඇතුලේම ධර්මයේ හැසිරෙන්න වෑයම් කලා. වෑයම අතෑරියෙ නෑ. ඒක හොඳට හිතට ගත යුතු කාරණාවක්. මේ යහපත් වූ ප්‍රතිපදාව, යහපත් ප්‍රතිපදාවයි කියලා හඳුනාගෙන දුක සේ වුනත් යහපත් ප්‍රතිපදාව කිරීමයි කළයුත්තෙ. අපි හිතන පතන අපි බලාපොරොත්තු වෙන වේගෙට ධර්ම මාර්ගයක් දියුණු වෙන් නෑ. යහපත් ප්‍රතිපදාවෙන් ලැබිය යුතු ඵලය සාක්ෂාත් වෙන් නෑ. හැබැයි නුවණැත්තො වීර්යවන්තයො මොකද කරන්නෙ, ඒ යහපත් වූ ප්‍රතිපදාව තුළ එල්ලිලා ඉන්නවා දුක සේ හරි. දුක සේ හරි කෙනෙක් කළයුත්තේ ඒක. දැන් බලන්න මේ වයසට ගිහිල්ලා බොහෝම වයොවෘද්ධ තැනැත්තියක් විදියට පැවිද්දට පත්වෙලත් විසිපස් අවුරුද්දක් තිස්සේ ඈ කොහොම හරි මේ ධර්ම මාර්ගයේ නිවන් මගේ එල්ලිලා හිටියා, අතහැර ගත්තෙ නෑ. චිත්ත සමාධියක් ලබාගන්න බැරිව කාම රාගයෙන් තෙමිලා ගිය සිතින් මං හිටියෙ. ඉතින් මං දෑත හිසේ බැඳගෙන හඬ හඬාමයි නිතර නිතර ආරාමය ඇතුලට ගියෙ. අර හිත එකඟ කරගන්න බැරිවෙනකොට හරි වේදනයි. වේදනාවෙන් අඬනවා කියනවා. අඬ අඬා සක්මන් කර කර උත්සාහ කරනවා. වාඩිවෙවී උත්සාහ කරනවා. හරී දුක සේ තමයි ඇගේ විසිපස් අවුරුද්දක කාලය ගතවෙලා තියෙන්නෙ. මං පැහැදිලා හිටියා එක භික්ෂුණියක් ගැන. ඒ පැහැදිලා හිටපු භික්ෂුණිය කියලා කියන්නෙ ධම්මදින්නා අර්හත් තෙරණියට. ධම්මදින්නා අර්හත් තෙරණිය කියලා කියන්නෙ මේ බුද්ධ ශාසනයේ ධර්ම කථික

භික්ෂුණීන් අතර අග්‍ර. චූලවේදල්ල සූත්‍රය ආදී ඉතා මනහර ධර්ම දේශනා, ඒ අර්හත් උත්තමාවිය සිදු කලා. ධර්ම කථික භික්ෂුණීන්ට අග්‍ර වුනේ ධම්මදින්නා අර්හත් උත්තමාවිය. ඒ උත්තමාවිය ගැනයි මේ භික්ෂුණිය පැහැදී සිටියේ. අන්තිමේදී මං ඈ ළඟට ගියා. ඈ ළඟට ගිහිල්ලා මේ හිතේ තියෙන ප්‍රශ්නය ඔක්කෝම කිව්වා. මේක තමයි බුද්ධ ශාසනයේ පිළිවෙල. තමන්ට කුසල් හිත දියුණු කරගන්න බැරිවෙනකොට නුවණැති සත්පුරුෂයෝ හොයාගෙන යනවා. බහුශ්‍රැත උත්තමයො උත්තමාවියො හොයාගෙන යනවා. බුදුරජාණන් වහන්සේම ඒ ගැන එක අවස්ථාවක දේශනා කලා ඒ දේශනාවේ සඳහන් වෙනවා පඨම සමය සූත්‍රය සහ දුතිය සමය සූත්‍රය කියන සූත්‍ර දේශනාවල. සැවැත් නුවර ජේතවනාරාමයේ වැඩ ඉන්නකොට භාග්‍යවතුන් වහන්සේ සමීපයට පැමිණිලා එක භික්ෂුවක් මෙන්න මෙහෙම ඇහුවා. ස්වාමීනී, මනෝභාවනීය භික්ෂුවක් දැකීම පිණිස එළඹෙන්න සුදුසු කාලය මොකක්ද? මනෝභාවනීය භික්ෂුව කියන්නෙ හිත වඩන ලද, එහෙම නැත්නම් ධර්ම මාර්ගය දියුණු කරන ලද, සමථ විදර්ශනා වඩන ලද භික්ෂුවක් මුණගැහෙන්න සුදුසු වෙලාව. ඒ භික්ෂුවත් එක්ක කතාබහ කරන්න සුදුසු වෙලාව. ඒ භික්ෂුවත් එක්ක දහම් ඇසුරක් ලබන්න සුදුසු වෙලාව මොනවගේ වේලාවක්ද? භාග්‍යවතුන් වහන්සේ වදාලා ත්ව මේ භික්ඛු සමයා මනෝභාවනීයස්ස භික්ඛුනො දස්සනාය උපසංකමිතුං - භික්ෂුව මනෝභාවනීය භික්ෂුවක් දැකීම පිණිස එළඹෙන්න සුදුසු කාල හයක් තිබේ. අවස්ථා හයක් තිබේ. කත මේ ඡය? - ඒ කවර කාලයන් හයක්ද? මනෝ භාවනීය භික්ෂුවක් එහෙම නැත්නම් වැඩුනු හිත් ඇති භික්ෂුවක් ධර්ම මාර්ගය දියුණු කරපු කෙනෙකුගේ උපදේශයක් ගන්න සුදුසු කාල හයක් තියෙනවා. බලන්න ඒ හය. භික්ෂූන් මෙහිලා යම්කිසි භික්ෂුවකගේ සිත යම් කලෙක කාමරාගයෙන් වෙළී කාමරාගයෙන් යටකොටගත් සිතින් වාසය කරයි නම් උපන්නා වූ කාමරාගයෙන් නිදහස් වීම ඒ අයුරින්ම නොදනී නම්, එසමයෙහි මනෝභාවනීය භික්ෂුවක් කරා එළඹ ඔහුට මෙසේ කිවයුත්තේය. යම්කිසි මොහොතක භික්ෂුවගේ හිතට එක දිගට කාම සිතුවිලි ගලාගෙන එන්න පටන් ගන්නවා. කාම සටහනින් නිදහස් වෙන්න බෑ. කාම සටහනින් නිදහස් වෙන්න බැරිව එක දිගට සරාගී සිතුවිලි, අතහැරගන්න බැරි විදියට ගලාගෙන එන්න පටන් ගන්නකොට ඕන්න හොයාගෙන යන්න කියනවා තමන්ට වඩා හිත වඩපු කෙනෙක්. තමන්ට වඩා ධර්මය තුළ සිත වැඩූ කෙනෙක් හොයාගෙන ගිහින් කියන්න කියනවා අනේ ආයුෂ්මතුනි, මම වනාහි කාමරාගයෙන් පීඩිතව කාමරාගයට යටවුනු සිතින්

වාසය කරමි. උපන් රාගයෙන් නිදහස් වීමක්ද මා හට නොතේරේ. අනේ ආයුෂ්මතුන් වහන්සේ මට කාමරාගය ප්‍රහාණය පිණිස දහම් දෙසන සේක්වා කියලා ඉල්ලන්න ඕන කියනවා. අන්න ඒ මනෝභාවනීය භික්ෂුව බණ පද කියාදෙනවා. ඒ මනෝභාවනීය භික්ෂුවගේ බණ පදයට සවන් යොමනකොට ඒ කෙනාට අර කාමරාගය දුරු කරගන්නට අර අකුසලයෙන් හිත බැහැර කරගන්නට අවකාශ ලැබෙනවා. බුද්ධ ශාසනය කියන එක ගැන හිත පහදවාගන්න පින්වතුනේ, බුද්ධ ශාසනයේ මේ බුදු සසුන තුළ පිළිසරණ පතන අය හෙව්වෙ මේ හිතේ පිරිසිදු භාවය. හිත කියන එක හරියට සුදෝසුදු වස්ත්‍රයක් වගේ තියාගන්න කැමැති වුනා බුදුරජුන්ගේ ශ්‍රාවකයො. එහෙම හිත පිරිසිදුව තියාගන්න උත්සාහ කරනකොට හිතට කිළුටක්, කාමරාගය. හරී අමාරුයි කාමුක සිතුවිලි හිතට එනකොට. ඒ කාමුක සිතුවිල්ලෙන් තමන් නිදහස් වෙන්න දන්නෙත් නැත්නම් අන්න ඒ වගේ වෙලාවක සත්පුරුෂයා හොයාගෙන යන්න ඕන. සත්පුරුෂයාගේ බණ පදය අහන්න ඕන. ඒ නිසා ජීවිතේ ප්‍රශ්න එනකොට දැන් ඇතැම් කෙනෙකුට හොඳට ඉන්න කාලෙ ආසාවෙන් බණ අහනවා. හිතට වෙහෙසක් නැතිව පීඩාවක් නැතිව ඔන්න හොඳට ඉන්නකොට බණ අහනවා. හැබැයි ජීවිතේට ප්‍රශ්න එනවා. ප්‍රශ්න එනකොට අපිට මේ ප්‍රශ්නනෙ. හරී කරදරනෙ. අපිට මෙහෙමත් ප්‍රශ්න, මෙහෙමත් ප්‍රශ්න කියලා ප්‍රශ්න ගැන හිත හිත ඉන්න පටන් ගන්නවා. ප්‍රශ්න තියෙන කාලෙ බණ අහන එක නවත්වනවා. ඇත්තෙන්ම කළ යුත්තෙ ඒක නෙවෙයි, ප්‍රශ්න තියෙන කාලෙ තමයි වැඩි වැඩියෙන්, වැඩි වැඩියෙන් බණ ඇසිය යුත්තේ. ඒ කාලෙ තමයි සත්පුරුෂයාව ළඟින්ම ඇසුරු කළ යුත්තෙ. භික්ෂුවට හැම කටයුත්තම බැහැර කොට තියලා තමන්ගේ හිත බලවත් කාම සිතුවිල්ලකින් පීඩාවට පත්වෙනවා නම් අනිත් හැමදේම අත්හැරලා දාලා ඒ වෙලාවේ හිත වැඩූ භික්ෂුවක්ව හොයාගෙන යන්න කිව්වා. ගිහිල්ලා තමන්ගේ සත්‍ය ස්වභාවය ප්‍රකට කරවන්න කිව්වා, මං මේ වෙලාවේ කාම සිතුවිලි වලින් ගුටි කකා ඉන්නෙ. දැන් එහෙම වුනානෙ. අපේ ආනන්ද මහතෙරුන් වහන්සේත් එක්ක වංගීෂ නම් වූ නවක භික්ෂූන් වහන්සේ පිණ්ඩපාතෙ වඩිනවා. ආනන්ද ස්වාමීන් වහන්සේ ඉදිරියෙන් වැඩම කරනවා. පිටිපස්සෙන් වංගීෂ කියන නවක තෙරුන් වහන්සේ වැඩම කරනවා. වැඩම කරද්දි පාරෙ ටිකක් අමුතු විලාසිතාවකට ඇඳගෙන හැඩකාර විදියට ස්ත්‍රියාවක් ආවා. මේ වංගීෂ කියන නවක තෙරුන් වහන්සේට මේ ස්ත්‍රියාව දැක්ක ගමන් සටහන් අනුසටහන් හිතට ගියා. හිත ඇවිස්සුනා. දැන් පිණ්ඩපාතෙ වඩිනකොට නොයෙක් සරාගී

සිතුවිලි හිතේ මැව් මැවී මැව් මැවී රාගය උපද්දනවා. එතකොට මේක හිතක කතාවක්. හිත ඇතුලේ ඇතිවෙච්චි දේ තමන්නෙ දන්නෙ. ඒක එළියට ප්‍රකට වෙන් නෑනෙ. හැබැයි තමන්ගේ ඇත්ත ස්වභාවය මනාව ප්‍රකට කරන ආජානේය පුරුෂයෙක් විදියට වංගීෂ කියන නවක භික්ෂුව පිණ්ඩපාතෙ වඩිමින් ඉද්දි ආනන්ද මහතෙරුන් වහන්සේට කියනවා ස්වාමීනී, ආනන්දයන් වහන්ස, මගේ හිත රාග සිතුවිලි වලින් දැවෙමින් තිබේ. මේ රාගය මාව වෙහෙසට පත්කරනවා. ස්වාමීනී මට රාගයෙන් නිදහස් වෙන්න පිළිවෙලක් කියන්න. එතකොට අපේ ආනන්ද මහතෙරුන් වහන්සේ - ආනන්ද මහතෙරුන් වහන්සේ කියලා කියන්නෙ භාග්‍යවතුන් වහන්සේගේ පිරිනිවීමෙන් පස්සෙ තමයි අර්හත්වයට පත්වුනේ. නමුත් විසිපස් අවුරුද්දක් බුදුරජාණන් වහන්සේට ඇප උපස්ථාන කරනකොට සෝතාපන්න භික්ෂුවක් විදියට රාග සිතුවිල්ලක්වත් උපද්දලා නෑ. ද්වේෂ සිතුවිල්ලක් වත් උපද්දලා නෑ. මෝහ සිතුවිල්ලක් වත් උපද්දලා නෑ. පුදුම චිත්ත දමනයක්. එහෙම පුදුම චිත්ත දමනයක් තිබුනු මනෝභාවනීය භික්ෂුවක් වන අපේ ආනන්ද මහතෙරුන් වහන්සේ කියනවා ආයුෂ්මත වැරදි විදියට නොවැ ඔබ රූපය ගත්තෙ. ඔබ නිමිති අනු නිමිති ගත්තෙ වැරදි විදියට නොවැ. අසුභාය චිත්තභාවේහි - මේ තමාගේ රූපය ගැනත්, බාහිර රූප ගැනත් අසුභ වශයෙන් කල්පනා කරන්න. අසුභය තුළ හිත වඩන්න. ඔය රාගය ඔබව වනසන්න එපා කිව්වා. එතකොට කළ යුතු දේ කියලා දුන්නා, අපේ ආනන්ද මහතෙරුන් වහන්සේ. වංගීෂ කියන නවක භික්ෂූණ් වහන්සේ දක්ෂ වුනා ඒ විදියට කටයුතු කරන්න. කාමරාගයෙන් හිත නිදහස් කරගත්තා, මනෝභාවනීය භික්ෂුවක් දකින්න එළඹෙන්න සුදුසු පළවෙනි අවස්ථාව ඔන්න ඕක. ඒ වගේම භික්ෂුව යම් කලෙක භික්ෂුවක් ද්වේෂයෙන් වෙලී, ද්වේෂයෙන් යටකොට ගත් සිතින් වාසය කරයි නම් උපන්නා වූ ද්වේෂයෙන් නිදහස් වීම ඒ අයුරින්ම නොදනී නම් එසමයෙහි මනෝභාවනීය භික්ෂුවක් කරා එළඹිය යුත්තේය. හිතට ද්වේෂයෙක් ක්‍රෝධයක් ඇවිල්ලා ඒකෙන් හිත පෙළනවා නම් තමන්ට නිදහස් වෙන්න හිතන්න දෙයක් තේරෙන් නැත්නම් අන්න ඒ වෙලාවේ මේ ද්වේෂය මට අනතුරක්, මේක මට විනාශයක් කියලා දැකලා ඉක්මණට හොයාගෙන යන්න ඕන කියනවා මනෝභාවනීය භික්ෂුව, වැඩු හිත් ඇති කෙනා. ධර්මයෙන් පෝෂණය වෙච්චි කෙනා හොයාගෙන යන්න ඕන. තමන්ට දහම් කාරණාවක් ඉගෙන ගන්න. දැන් ඒක කාට වුනත් එහෙමයි. එක අවස්ථාවක, මේ විනය පිටකයේ සඳහනක් තියෙනවා එක අවස්ථාවක එක්තරා භික්ෂුවක් කුටියක් කරන්න කැමැති වුනා,

මේ භික්ෂුව කුටිය කරවීම පිණිස කුටිය හදාගෙන යනකොට එයාගේ කුටියට බාධා වෙන විදියට ගහක අත්තක් තිබුනා. ඒ භික්ෂුව මේ අත්ත කපන්න කල්පනා කලා. ඒ කාලෙ බුදුරජාණන් වහන්සේ උපසම්පදා භික්ෂුවට ආපත්ති පනවලා තිබ්බෙ නැහැ, ගස්කොළන් සිඳලීම සම්බන්ධයෙන්. ඉතින් මේ භික්ෂුව ආයුධයකුත් අරගෙන අරගහේ අත්ත කපනවා. අත්ත කපද්දි මේ වෘක්ෂය විමානය කරගත්තු දේවතාවෙක් හිටියා. ඒ දේවතාවාට දැන් මේ විමානයට හානි සිද්ධ වෙනවා. මේ දේවතාවා භික්ෂුව ඉස්සරහට පේන්න ඇවිල්ලා කිව්වා අනේ ස්වාමීනී මේ මං විමානය කරගෙන ඉන්න ගහනෙ. ස්වාමීනී මේක කපන්න එපා, මට හානි සිද්ධ වෙනවානෙ කිව්වා. ඊටපස්සෙ මේ භික්ෂුව ටිකක් හිතුවක්කාර භික්ෂුවක්. මේ භික්ෂුව කිව්වා ඔහේ ඉතින් වෙන ගහක් හොයාගන්න කිව්වා. මට මෙතන මගේ කුටිය කරවන්න මට අත්ත අයින් කරන්න වෙනවා, ඔහේ කිව්වා කියලා මං නවත්වන් නෑ, එහෙම කියලා අර දෙවියා එපා කියද්දි අත්ත කැපුවා. අත්ත කපනකොට මේකෙ ඒ සිද්ධිය තියෙනවා, දේවතාවාගේ දරුවෙක් වෙලා හිටපු දේව පුත්‍රයෙකුටත් යම් තුවාලයක් සිද්ධ වුනා. ඒ තුවාලය සිද්ධ වෙනකොට මේ දේවතාවාට හිතක් උපන්නා එකපාර කේන්තියක් ආවා, මං මේ භික්ෂුව මරන්න ඕන කියලා. තරහක් හිතට එනකොට, මේ දෙවියා ධර්මය පුරුදු කරන්න මහන්සි වෙච්චි කෙනෙක්. තරහා තරහා විදියට හඳුනාගන්න මේ දෙවියා දක්ෂ වුනා. මේ දෙවියා කල්පනා කලා මට විනාශය පිණිස මගෙන්ම හතුරෙක් උපන්නා. බලන්න එතකොට දෙවිවරුත් බොහෝම ලස්සනට ධර්මය පුරුදු කරනවානෙ. දැන් ඇතැම් ධර්මය ගැන ශ්‍රද්ධාවක් නැති අසත්පුරුෂ අය කියනවානෙ මේ දෙවියන් අතරෙ ඉපදිලා ධර්ම විනය කරන්න බැරිය කියලා. දැන් මේ තියෙන්නෙ දෙවිවරු හොඳට හිත ගැන අවධානයෙන් ඉඳලා දහම් මගක් දියුණු කරන්න මහන්සි වෙච්චි හැටි. මේ දෙවියාට තේරුනා මට මේ කේන්ති ගියා, මේක හොඳ එකක් නෙවෙයි. මං දැන් මොකක්ද කරන්නෙ? දෙවියට හිතාගන්න බෑ යම් යෝනිසොමනසිකාරයකින් මේ ද්වේෂය දුරු කරන්න විදියකුත්. ඒ දෙවියා ඒ වෙලාවේ තීරණයකට එනවා මං ඉක්මණින්ම බුදුරජාණන් වහන්සේ හොයාගෙන යන්න ඕන. දෙවියා සැණෙකින් භාග්‍යවතුන් වහන්සේ ඉදිරියේ පෙනී හිටියා. පෙනී ඉඳලා භාග්‍යවතුන්වහන්සේට පැමිණිලා කලා ස්වාමීනී, ඔබවහන්සේගේ ශ්‍රාවක භික්ෂුවක් මට මෙහෙම අකටයුත්තක් කලා. ස්වාමීනී මට කේන්තියක් ආවා, මට ඒ භික්ෂුවව ඝාතනය කරන්න හිතුනා. හැබැයි ස්වාමීනී මං ඒක කලේ නෑ, මං ඔබ වහන්සේව හොයාගෙන ආවා. බුදුරජාණන්

වහන්සේ ඒ දෙවියාට ප්‍රශංසා කලා. දෙවිය, ඔබ කටයුතු කරපු විදිය ඉතාම යහපත්. බැරිවෙලාවත් ඔබ ඒ කේන්ති ගියපු වෙලාවේ කේන්තියෙන් ඒ භික්ෂුවගේ ජීවිතය තොරකලා නම් ඔබට බොහොම බරපතල පාපකර්මයක් සිද්ධ වෙනවා මොකද ඒ භික්ෂුව සීලවන්තයෙක්. සිල්වතෙක්ව ඝාතනය කරලා ඔබට බලවත් පාපයක් සිද්ධ වෙනවා, ඒ නිසා දෙවිය ඔබ කටයුතු කරපු විදිය බොහොම යහපත් කියලා බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ උරග සූත්‍ර දේශනාව දේශනා කලා. ඒ උරග සූත්‍ර දේශනාව අවසානයේ දෙවියාට ධර්මාවබෝධ වුනා. අර ද්වේෂය ඔක්කොම පහවෙලා ගිහිල්ලා දෙවියාට ධර්මාවබෝධ කරන්න ලැබුනා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ ඒ දේවපුත්‍රයාට විමානය කරගන්න වෙනම වෘක්ෂයක් පෙන්නුවා. භික්ෂූන්ට සිල්පද පැනෙව්වා, උපසම්පදා භික්ෂුවට ගස් කොළං සිඳලීම ආපත්තියකි කියලා. ඒක වැරැද්දක් විදියට. ඉතින් එතකොට යම් වෙලාවක ද්වේෂය කියන, කෝපය කියන අකුසලය හිතට ඇවිල්ලා ඒ අකුසලයෙන් හිත කැළඹෙනවා නම් ඒ වෙලාවේ පිරිසිදු හිතක් කැමැති කෙනා සත්පුරුෂයෙක් කල්‍යාණමිත්‍රයෙක් බණ දහම් දන්න කෙනෙක් හොයාගෙන ගිහිල්ලා හොඳට බණ අහන්න ඕන, මේ ද්වේෂය හිතේ නොපවතින තාක්. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා භික්ෂුව යම් කලෙක භික්ෂුවක් ථිනමිද්ධයෙන් වෙළී ථිනමිද්ධයෙන් යටකොටගත් සිතින් වාසය කරයි නම් උපන්නා වූ ථිනමිද්ධයෙන් නිදහස් වීම ඒ අයුරින්ම නොදනී නම් එසමයෙහි ද මනෝභාවනීය භික්ෂුවක් කරා එළඹිය යුත්තේය. එළඹී ඒ භික්ෂුවගෙන් දහම් අවවාද ලැබිය යුත්තේය. ථිනමිද්ධය - නිදිමත එනවා නම්, අලසකම එනවා නම්, ධර්ම මාර්ගයේ හැසිරෙන්න අරතිය එනවා නම්, කුසල් දහම් වඩන්න හිත කැමැති නැති ගතිය එනවා නම් අන්න ඒ වෙලාවටත් හොයාගෙන යන්න ඕන කිව්වා මනෝභාවනීය භික්ෂුව. මනෝභාවනීය භික්ෂුව කියලා කියන්නෙ මනාකොට දහම තුළ හිත දියුණු කරගත්තු කෙනානෙ. එතකොට මේ කාලෙ නම් එතකොට පැහැදිලිව බුදුරජාණන් වහන්සේගේ ධර්මය කියාදෙන භික්ෂූන්ව අපි හොයාගෙන යන්න ඕන. එහෙම නැත්නම් හොඳට බණ අහන්න ඕන. නිතර නිතර ධර්මය ශ්‍රවණය කරන්න ඕන. ධර්ම ශ්‍රවණය තුළ ඒ මනෝභාවනීය භික්ෂුවකගෙන් ලැබෙන දහම් අවවාද සියල්ල එතන ලැබෙනවා. මොකද තුන්ලෝකාග්‍ර බුදුරජාණන් වහන්සේගේ ධර්මයයි, ධර්ම කථිකයන් වහන්සේලා, ධර්ම දේශකයන් වහන්සේලා පිරිසිදු ධර්මය දේශනා කරන දේශයකයන් වහන්සේලා කියාදෙන්නෙ. ඒ තමයි තුන්වෙනි අවස්ථාව. තවද භික්ෂුව යම් කලෙක්

භික්ෂුවක් උද්ධච්ච කුක්කුච්ඡයෙන් වෙලී, උද්ධච්ච කුක්කුච්ඡයෙන් යටකොටගත් සිතින් වාසය කරයි නම් උපන්නා වූ උද්ධච්ච කුක්කුච්ඡයෙන් නිදහස් වීම ඒ අයුරින්ම නොදනී නම් අන්න ඒ වෙලාවේත් මනෝභාවනීය භික්ෂුව සොයා යා යුත්තේය. මේවට කියන්නෙ නීවරණ කියලා. කුසල් වැඩීම පිණිස හිතක් පුරුදු කරනකොට ඒ කුසල් වඩන හිත ආවරණය කරගන්න එන අකුසල් වලට කියනවා නීවරණ. ආවරණං, නීවරණං. කුසල් හිත ආවරණය කරන නිසා ඒවාට නීවරණ කියා කියයි. කාමච්ඡන්ද, ව්‍යාපාද, ථීනමිද්ධ, උද්ධච්ච කුක්කුච්ඡ- උද්ධච්ච කුක්කුච්ඡ කියලා කියන්නෙ විසිරීම සහ පසුතැවීම. හිත් විසිරී යනවා. ඊළඟට හිත පසුතැවීමට පත්වෙනවා. මේ විසිරීමත්, පසුතැවීමත් කියන දෙක තිබුනොත් එහෙම ඒකත් හරි බාධාවක්. දැන් ඇතැම් අවස්ථාවල භාග්‍යවතුන් වහන්සේ ගිලන් වෙච්ච් භික්ෂූන් සමීපයට වැඩම කරනවා. ඒ වැඩම කලාට පස්සෙ බුදුරජාණන් වහන්සේ අහනවා, භික්ෂුව ඔබට මොකාක්හරි දෙයක් ගැන හිතේ විපිලිසර බවක් තියෙනවාද. එතකොට ඇතැම් භික්ෂූන් කියනවා අනේ ස්වාමීනී මට හරී වේදනාවක් තියෙනවා හිතේ, මට ඉස්සර හොඳට චිත්ත සමාධිය තිබුනා. ස්වාමීනී මට මේ ලෙඩෙත් එක්ක, ගිලන් භාවයත් එක්ක මට සමාධියට එළඹෙන්න විදියක් නෑ, මට ඒ සම්බන්ධයෙන් පසුතැවීමක් තියෙනවා, මට තිබ්බ සමාධිය නැතිව ගියා කියලා. එතකොට බුදුරජාණන් වහන්සේ ඒ භික්ෂුවට කියනවා පින්වත් භික්ෂුව, තථාගතයන් වහන්සේ ධර්මය දේශනා කලේ සමාධිය උදෙසා නොවෙයි. තථාගතයන් වහන්සේගේ ධර්මයේ තියෙන්නෙ සියලු කෙලෙසුන්ගෙන් නිදහස් වීම ඉලක්ක කරගෙනයි. ඒ නිසා විදර්ශනා වඩන්න කියලා. ඉතින් ඒ භික්ෂුවට ඒ අවවාදය නොලැබුනා නම් අර පසුතැවීම අස්සේම ඉඳලා ඉඳලා ඒ පසුතැවීම, ඒ කළකිරීම අස්සේම ඉඳලා ගිලන් භාවයෙන් ඔත්පල වෙලා කළුරිය කරන්න තිබුනා. නමුත් ඒ දහම් අවවාද ලැබූ හැම භික්ෂුවක්ම රහතන් වහන්සේලා බවට පත්වෙලා නිවී ගියා. හරි අවවාදය, හරි වෙලාවේ ලැබිච්චි නිසා. එතකොට හිතේ විසිරීම, පසුතැවීම ආදිය ආවට පස්සෙ ඒක අඳුනගන්න බෑ සාමාන්‍යයෙන්. අඳුනගත්තත් නිදහස් වෙන හැටි තේරෙන් නෑ. දැන් මේ බුද්ධ ශාසනයේ මහා ශ්‍රාවකයන්ට එහෙම සිද්ධි වුනානෙ. මේ බුදු සසුනේ දිවැස් ලාභී තෙරුන් අතර අග්‍ර වුනේ අපේ අනුරුද්ධ මහතෙරුන් වහන්සේ. අනුරුද්ධ මහතෙරුන් වහන්සේ අර්හත්වයට පරෙ එක් අවස්ථාවක අපේ සාරිපුත්ත මහරහතන් වහන්සේ ළඟට පැමිණිලා සාරිපුත්ත මහරහතන් වහන්සේට කියනවා මෙහෙම කතාවක්. ස්වාමීනී සාරිපුත්තයන් වහන්ස, මම

දියුණු කරන ලද නුවණින් දහසක් ලෝක දකිනවා. මට එහෙම පිරිසිදු දිවැසක් ස්වාමීනී තියෙනවා. මං ඒ පිරිසිදු දිවැසින් දහසක් ලෝක දැක දැක ඉන්නෙ. ඊළඟට ස්වාමීනී මගේ හිතත් හොඳට එකඟ වෙලා තියෙන්නෙ. මේ හිතේ හොඳට චිත්ත සමාධිය පිහිටලා තියෙනවා. කයත් ස්වාමීනී මගේ බර නෑ, මම බොහොම සැහැල්ලුවෙන් ඉන්න කෙනෙක්. ඊළඟට ස්වාමීනී මට කුසල් වඩන්න, අකුසල් දුරු කරන්න හොඳට වීර්යයත් පිහිටලා තියෙනවා. ඒ වුනාට ස්වාමීනී මෙහෙම ඉඳලත්, මෙහෙම ඉඳලත් මගේ හිත කෙලෙසුන්ගෙන් නිදහස් වෙන් නැනෙ. මං තාම කෙලෙස් සහගතයි කිව්වා. එතකොට අපේ සාරිපුත්ත මහරහතන් වහන්සේ වදාළා, ආයුෂ්මත් අනුරුද්ධයෙනි, දැන් ඔබට තියෙනවානෙ මම මගේ දියුණු කරන ලද හිතින් දහසක් ලෝක සුවසේම දකිනවා, මට හොඳට දිවැස තියෙනවා කියලා අදහසක්. ඔන්න ඔය අදහස ඔබේ තියෙන්නෙ, උද්ධච්චය තුළ. ඕක ඔබේ උද්ධච්චයට අයිති එකක්. ඊළඟට ඔබට තියෙනවානෙ මට වීර්යය තියෙනවා, සිහිය තියෙනවා, මට නුවණ තියෙනවා, මට සමාධිය තියෙනවා ආදී හැඟීම්. ඕවා තියෙන්නෙ මාන්නය තුළ. ඊළඟට ඔබට අදහසක් එනවානෙ හිතට අයියෝ මෙහෙම වෙලත් මගේ හිත ඇයි කෙලෙසුන්ගෙන් නිදහස් වෙන්නෙ නැත්තේ කියලා. ඔය තියෙන්නෙ අනුරුද්ධයෙනි පසුතැවීම. ඔබ ඔන්න ඔය තුන අතහැරියොත් උද්ධච්චය එහෙම නැත්නම් ආඩම්බරකම, මාන්නක්කාරකම, ඊළඟට පසුතැවීම කියන තුන ඔබ අත්හැරියොත්, ඒ තුනම අත්හැරලා අමෘත නිවන තුළ හිත පිහිටුවාගත්තොත් ඔබට වැඩිකලක් යන්න කලින් කෙලෙස් දුරු කරගන්න පුලුවන් කිව්වා. එතකොට බලන්න සුදුසුම වෙලාවේ මනෝභාවනීය භික්ෂුව කරා එළඹීමේ යහපත. එච්චර මහා ශ්‍රාවකයන් වහන්සේලාටත් මේ හිතේ කෙලෙස් හැසිරීම අඳුනගන්න බැරි අවස්ථා ආවා. ඒ හැසිරෙන කෙලෙස් වලින් නිදහස් වෙන විදිය අඳුනගන්න බැරි අවස්ථා ආවා. මනෝභාවනීය භික්ෂුව සමීපයට ඇවිල්ලා අවවාද ගත්තා විතරයි, නොබෝ කලකින් අපේ අනුරුද්ධ මහතෙරුන් වහන්සේ හිතේ තිබුනු උද්ධච්චය දුරු කලා. මාන්නක්කාරකම දුරු කලා. හිතේ තිබුනු පසුතැවීම දුරු කලා. උතුම් රහතන් වහන්සේ නමක් බවට පත්වුනා. ඉතින් ඒ තමයි සිව්වෙනි අවස්ථාව මනෝභාවනීය භික්ෂුව දකින්න එළඹීමට සුදුසු. භික්ෂුව යම් කලෙක භික්ෂුවක් විචිකිච්ඡාවෙන් වෙළී විචිකිච්ඡාවෙන් යටකොට ගත් සිතින් වාසය කරයි නම් උපන්නා වූ විචිකිච්චාවෙන් නිදහස් වීම ඒ අයුරින්ම නොදනී නම් අන්න ඒ අවස්ථාවත් මනෝභාවනීය භික්ෂුව කරා එළඹෙන්න සුදුසු වෙලාවයි. විචිකිච්ඡාව, සැකය උපදිනවා. ශාස්තෘන් වහන්සේ ගැන

වෙන්න පුලුවන්, ධර්මය ගැන වෙන්න පුලුවන්, ධර්ම මාර්ගය ගැන වෙන්න පුලුවන්, ශික්ෂාව ගැන වෙන්න පුලුවන් කෙනෙකුට සැක උපදිනවා. සැකය උපන්නාට පස්සෙ ධර්මයේ පිළිසරණ කැමැති කෙනා සැකය තුළ පැහැව පැහැව නෙවෙයි ඉන්න ඕන. ඒ කෙනා ඉක්මණට තමාට වඩා බහුශ්‍රැත, ධර්මධර මනෝභාවනීය භික්ෂුවක් හොයාගෙන යන්න ඕන ඒ භික්ෂුවගේ පිහිටක් පතාගෙන. භික්ෂුවට උගන්වන්න නෙවෙයි යන්න ඕන. ඒ ගරු කටයුතු භික්ෂුව හොයාගෙන යන්නෙ තමන්ගේ මේ ලෙඩේට බෙහෙතක් අරගන්න. තමන්ට සුවය හදාගන්න. තමන්ට වැරදුනා කියලා දැනගන්න. දැන් හිතට සැක ආවහම, ධර්ම මාර්ගය සම්බන්ධයෙන් කෙනෙකුට සැකයක් ආවහම, මං මේ ධර්ම මාර්ගය සැක කරනවා, මේක මට අකුසලයක් කියලා දකින්න එයාට නුවණක් තියෙන්න ඕන. සැකය සැකය ලෙස හඳුනගන්න නුවණක් තියෙන්න ඕන. ඒ නුවණ නැති වුනොත් ඒ කෙනා ඉතින් මනෝභාවනීය භික්ෂුව කරා එළඹෙනවා කියලා කතාවක් නෑනෙ, එළඹුනත් ඒ භික්ෂුව කියන බණ පදය සිදුරක් හොයන අදහසින් අහනවා මිසක් ඒ බණ පදයෙන් පිහිටක් පතාගෙන අහන්නෙ නෑනෙ. ඒ නිසා, හරියට මේ කාරණා අඳුරගත්තොත් මේ කාරණා අතුරෙන් තමයි ජීවිතයට ඒ කාලෙ පින්වතුනේ යහපත හදාගෙන තියෙන්නෙ, දැන් ඒ කාලෙ ධර්මය පොත් වල සඳහන් වෙලා තිබුනු කාලෙත් නෙවෙයිනෙ. භික්ෂූන් වහන්සේලාගේ හදවත් තුළ තමයි ධර්මය දරාගෙන තිබුනෙ. යම් යම් කාරණා සම්බන්ධයෙන් ගැටළු ඇතිවුනාම ඒ ධර්ම කාරණය පහදාගන්න හොඳට ධර්මය දන්න භික්ෂුවක් ගාවට එළඹෙන්නම ඕන. එළඹිලා විමසනවා. විමසලා භික්ෂුව යම් විදියකට පැහැදිලි කරනවාද, ඒ පැහැදිලි කරන විදියට දරාගන්නවා. ධර්මයේ තියෙන්නෙ මෙහෙමයි කියලා පහදලා දෙන විදියට හොඳට දරාගන්නවා. ඒ දරාගැනීමේ හැකියාව, ඒ කියන්නේ මනාකොට දහම අහලා, ඇසූ දහම වරදවා ගන්නැතිව දරාගැනීමේ හැකියාව හරි පුදුම විදියට ඒ කාලෙ තිබිලා තියෙනවා. ඒක හොඳට පේනවා පින්වතුනි අපි දැන් අවස්ථා තියෙනවා, බුදුරජාණන් වහන්සේ සාරාංශ වශයෙන් බණ කියනවා. බුදුරජාණන් වහන්සේ කෙටියෙන් බණ පදයක් කිව්වට පස්සෙ ඒ බණ පදය විස්තර විභාග වශයෙන් දැනගන්න වුවමනා වෙනවා භික්ෂූන්ට. එතකොට ගොඩාක් අවස්ථාවල අපේ මහාකච්චායන මහරහතන් වහන්සේ ළඟට එළඹිලා භික්ෂූන් බණ දහම් අහනවා. ඒ අහලා අහගත්ත එක ආයෙ විවේකයක් හම්බුනාම බුදුරජාණන් වහන්සේට කියනවා ස්වාමීනී අපිට අපේ මහාකච්චායන මහතෙරුන් වහන්සේ මෙහෙමයි කියලා දුන්නෙ. එතකොට

මෙහෙමයි කියලා දුන්නේ කියලා කියන කතාවෙත් කිසි අඩුවක් නෑ. හොඳට දරාගැනීමේ හැකියාවක්, ඉතින් ඒ පින්වන්තයන්ගේ යුගයනෙ. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා අවසාන අවස්ථාව, තවද භික්ෂුව යම් කලෙක භික්ෂුවක් යම් නිමිත්තකට පැමිණ, යම් නිමිත්තක් මෙනෙහි කරනා කල්හි මේ ජීවිතයේදීම ආස්‍රවයන් ක්ෂය වීමක් සිදු නොවෙයිද, එසේ සිදු නොවීම පිණිස ඒ නිමිත්ත නොදනී ද, නොදකී ද එසමයෙහි මනෝභාවනීය භික්ෂුව සොයා යායුත්තේය. තමන් බණ භාවනාවක් කරනවා තමන්ගේ භාවනාව කරන පිළිවෙලට හිත කෙලෙසුන්ගෙන් නිදහස් වෙන්නේ නෑ. තමන් යම් කුසල නිමිත්තක් තුළ විදර්ශනා කලාට යෝනිසොමනසිකාර කලාට හිත කෙලෙසුන්ගෙන් නිදහස් වෙලා යන්නෙ නෑ. අන්න එතකොට ඒ වෙලාවෙත් මනෝභාවනීය භික්ෂුව වැඩූ හිතක් ඇති භික්ෂුව හොයාගෙන යන්න ඕන කියනවා, ඒකට පිළිසරණක් හොයාගන්න, හේතුව ඒ භික්සුව එතකොට මනාව හිත දියුණු වෙන පිළිවෙල කියලා දෙනවා, ආර්ය මාර්ගය කියලා දෙනවා. එතකොට ඒ තුළ පිහිටා ඔවුන්ට පුලුවන් වෙනවා තමන්ට වැරදිච්චි තැන හදාගන්න. ඉතින් මේ විදියට තමයි භාග්‍යවතුන් වහන්සේ දේශනා කලේ එළඹෙන්න සුදුසු කාලය සහ මනෝභාවනීය භික්ෂුව වෙත එළඹී දහම් අහන්න සුදුසු කාලය. ඉතින් මේ කාරණා ඉගෙනගන්නකොට තේරෙනවා පින්වතුනේ සාමාන්‍යයෙන් මේ යුගයේ ගත්තහම අපිට කුසල් හිත ආරක්ෂා කරගන්න තියෙන හොඳම පිළිවෙල නිතර බණ අහන එකයි. අපිට අපේ කුසල් හිත ආරක්ෂා කරගන්න තියෙන හොඳම පිළිවෙල නිතර නිතර බණ අහන එක. මොකද සාමාන්‍යයෙන් මේ යුගයේ අපේ ජීවිත ගත්තහම, අපි නිතර නීවරණ වලින් බැට කන පිරිසක්. මේ යුගයේ ධර්ම මාර්ගයේ ප්‍රතිපදා ගත්තහම මේ යුගයේ තියෙන්නෙ දුක්ඛා පටිපදාවමයි. ප්‍රතිපදාව දුක සේ යන්න තියෙන්නෙ. ඒ කිව්වෙ නීවරණ වලින් ගුටි කකා, නීවරණ වලින් ගුටිකන්න තියෙනවා. ඊළඟට කර්ම දෝෂ වලින් ගුටිකන්න තියෙනවා. මනුස්සයන්ගෙන් ගුටිකන්න තියෙනවා. මෙහෙම මහා ගුටිකෑම් ගොඩක් අස්සේනෙ මේ කාලෙ දහම් මග දියුණු කරනවා කියන එක, යම් ධර්මයක් තුළ හැසිරෙනවා කියන එක කරන්න තියෙන්නෙ. එතකොට මේ කාලෙ තියෙන පිළිසරණ ධර්මය අහන එක. නිතර ධර්මය අහ අහා අහ අහා හිත සන්තෝෂ කරගන්න එක. හිත පහදවාගන්න එක. ධර්ම ශ්‍රවණය තමයි මේ කාලෙ අපිට මේ ධර්ම මාර්ගයේ ශක්ති සම්පන්නව පිහිටන්න, ඉන්ධන සපයන්නේ. ඉතින් ඒකට පින්වතුන්ලාට හොඳ අවස්ථාවක් මේ ආපදා සම්පන්න කාලවකවානුවකත් ශ්‍රද්ධා

රූපවාහිනිය ලක්විරු ගුවන් විදුලිය ආරම්භ වෙලා තිබ්බ නිසා බුදුරජාණන් වහන්සේගේ පාරිශුද්ධ ශ්‍රී සද්ධර්මය සත්‍ය වූ බුද්ධ වචනය ඔබට හැමතිස්සේම අහන්න ලැබෙනවා. එය අහමින් ඉතින් හිත පහන් කරගන්න. හිත සතුටු කරගන්න අවකාශ තියෙනවා. ඉතින් අපි කතා කරමින් හිටියේ අර භික්ෂුණිය ගැන. විසිපස් අවුරුද්දක් තිස්සේ අසුරක් ගහන මොහොතක්වත් චිත්ත සමාධියක් හිතේ එකඟ බවක් නොලබා හිටපු භික්ෂුණිය ගැන. ඒ භික්ෂුණිය අවසානයේ ධම්මදින්නා අර්හත් උත්තමාවියව සොයාගෙන ගියා. ධම්මදින්නා අර්හත් උත්තමාවිය ළඟට ගිහිල්ලා ඒ උත්තමාවිය අභිමුඛයේ තමන්ගේ සත්‍ය ස්වභාවයම ප්‍රකට කලා. කිව්වා මම මේ මේ විදියට පීඩා විඳිනවා. මට මේ මේ විදියේ සිතුවිලි ගලාගෙන එනවා. ඉතින් ඒ භික්ෂුණිය මට ස්කන්ධ, ධාතු, ආයතන ගැන ධර්මය දේශනා කලා. එතකොට ධම්මදින්නා අර්හත් උත්තමාවිය මේ ජීවිතය ගැන හරියටම දැක්ක යුතු විදිය ලස්සනට කියලා දුන්නා. ජීවිතේ කියලා කියන්නෙ මොකක්ද කියලා. මොකද මේ තෙරණින් වහන්සේ කාමරාගයෙන් තමයි බැටකකා හිටියේ. හරි සරාගී තැනැත්තියක්. රාග සිතුවිලි නිතර නිතර හිතට එනවා. අර තරුණ අවධියේ සරාගීව ජීවිතේ ගත කරපු විදිය මැව් මැවී හිතට එනවා. කාමරාගයෙන් තමයි ගුටිකන්නෙ. කාමරාගයෙන් ගුටිකන ඒ තැනැත්තියට ධම්මදින්නා අර්හත් උත්තමාවිය ජීවිතේ ගැන නුවණින් දැක්ක  යුතු විදිය ලස්සනට කියලා දුන්නා. මේ ජීවිතේ දකින්න ස්කන්ධ විදියට. රූප, වේදනා, සංඥා, සංස්කාර, විඤ්ඤාණ කියන පඤ්චුපාදානස්කන්ධයක් මෙතන තියෙන්නේ කියලා හොඳට නුවණින් දකින්න. ඊළඟට මේ ජීවිතේ දිහා බලන්න ධාතු විදියට. පඨවි ධාතු, ආපෝ ධාතු, තේජෝ ධාතු, වායෝ ධාතු, ආකාස ධාතු, විඤ්ඤාණ ධාතු කියන මේ ධාතු හය තමයි ජීවිතේ කියලා කියන්නෙ. නුවණින් ඒ නිසා හොඳට විමසන්න මේක ධාතු හයක් විදියට. මේකෙ තියෙන්නෙ පස්වෙලා යන දේවල්. මේකෙ තියෙන්නෙ හමාගෙන යන ස්වභාවයට අයිති දේවල්. මේකෙ තියෙන්නෙ ගලාගෙන යන ස්වභාවයට, වැගිරෙන ස්වභාවයට අයිති දේවල්. මේකෙ තියෙන්නෙ උණුසුම් ස්වභාවයට අයිති දේවල්. ඊළඟට අවකාශ ධාතුව සහ විඤ්ඤාණ ධාතුව. මෙහෙම නුවණින් දකින්න ජීවිතය දිහා. තමන්ගේ යැයි සළකන මේ ජීවිතයත් මේ ශරීරයත් එහෙම එකක්. බාහිරත් එහෙමයි. එහෙම නුවණින් සළකන්න කිව්වා. දැන් ඒ ධාතු මනසිකාරය ආදිය ගත්තහම ඒ ධාතු මනසිකාරය බාහිර ලෝකෙ ධාතූන්ට ගලප ගලප නුවණින් විමසලා තියෙනවානෙ භික්ෂූන්. දැන් ඒ ධාතු මනසිකාර විදර්ශනාව ගැන ධර්මයේ සඳහන් වෙනකොට තියෙනවා

භික්ෂූන් වහන්සේලා නුවණින් කල්පනා කරලා තියෙනවා ඔන්න මහා වැව් තියෙනවා, ඒ මහා වැව් පායන කාලෙ ආවට පස්සෙ වතුර පොදක් වත් නැතිවෙන්න හිඳිලා යනවා. එතකොට භික්ෂූන් නුවණින් කල්පනා කරනවා මේ වැවක් කියලා කියන්නෙ ආපෝ ධාතුව, සුවිශාල ආපෝ ධාතුවක්. සුවිශාල ද්‍රව ස්වභාවයක්. හැබැයි ඒ සුවිශාල ද්‍රව ස්වභාවයත් අනිත්‍ය වෙලා ගියා. එහෙම අනිත්‍ය වෙලා ගියා නම් මගේ ශරීරය කියලා සළකාගෙන ඉන්න මේකෙ තියෙන ද්‍රව ස්වභාවය ගැන, ඒකෙ අනිත්‍යය ගැන කවර කතාද. මේ සොච්චමකට මොකට ඇලෙනවාද. ඊළඟට පඨවි ධාතුව ගැන හිතලා තියෙනවා ඔන්න මේ කඳු ගැට, ලස්සන භූමි භාග, හිත වසඟ වෙන තරම් ලස්සන තැන් තියෙනවා. පඨවි ධාතු. හැබැයි ඔන්න එක ගංවතුරයි එන්නෙ, මෙන්න මේවා ඔක්කොම වැහිලා යනවා. සැණෙකින් අනිත්‍ය වෙලා යනවා ලොකු ප්‍රදේශ. එතකොට මේ සා ලොකු විශාල පඨවි ධාතුවත් සැණෙකින් අනිත්‍ය වෙලා යනවා නම් මේ තමාගේ යැයි සලකන මේ ශරීරය මේකෙ අනිත්‍යය ගැන කවර කතාද. එහෙම නුවණින් සළකලා තියෙනවා. එහෙම සත්‍ය නුවණින් හිතලා තියෙනවා. ඊළඟට මේ ජීවිතය ගැන බැලිය යුතුයි ආයතන හයක් විදියට, දුක උපද්දන ආයතන. ඇස නම් ආයතනය, කණ නම් වූ ආයතනය, නාසය නම් ආයතනය, දිව නම් වූ ආයතනය, කය නම් ආයතනය, මනස නම් වූ ආයතනය. ඇයි මේ ආයතන කියලා මේවට කියන්නෙ? මේවගෙන් යමක් උපද්දනවා, නිෂ්පාදනය කරනවා. යමක් නිෂ්පාදනය කරන නිසා ඒවට කියනවා ආයතන කියලා. මේ ආයතන වලින් ඇස, කන, නාසය, දිව, කය, මනස කියන ආයතන වලින් කුමක්ද පින්වතුනේ නිෂ්පාදනය කරන්නෙ සසර දුක. දුකමයි නිෂ්පාදනය කරන්නෙ. බුදුරජාණන් වහන්සේ දේශනා කලා මහණෙනි යම් තැනක ඇස උපදනවා කියලා කියන්නෙ දුක්ඛ සේසො උප්පාදො, උපන්නේ දුක. පහළ වුනේ ජරා මරණ. පහළ වුනේ රෝගයන්ගේ පැවැත්ම, වෙන මුකුත් නෙවෙයි. යම් තැනක කන උපන්නා කියලා කියන්නෙ එතන උපන්නෙ දුක. එතන පහළ වුනේ ජරා මරණ. නාසය දිව කය මනස උපන්නා කියලා කියන්නෙ එතන උපන්නෙ දුක. ජරා මරණය පහළ වුනේ. ඉතින් ඒ විදියට ආයතන වශයෙන් මේ ජීවිතේ ගැන හරි ලස්සනට ධර්මය දේශනා කලා කියනවා. ඒ භික්ෂුණිය කියාපු ධර්මය මං හිතට ගත්තා. ඒ හිතට ගත්තා කියලා කියන්නෙ මොකද පින්වතුනේ, හොඳට ඒ ධර්මය මෙය නම් සත්‍යයි කියලා දරාගත්තා තමන්ට අවබෝධ කරගන්න අදහසින්. ඒ ධර්මය තමයි එල ලබාදෙන්නෙ. සිදුරක් හොයන අදහසින්, ඇදයක් හොයන අදහසින් මොකක්ද වැරදුනේ කියන අදහසින්, තමන්ගේ මතයට

ගැලපෙන්නෙ නැද්ද මොකක්ද කියන අදහසින් බණ ඇහුවා කියලා ජීවිත කාලෙම බණ ඇහුවත් ඒකෙ ඇති ඵලක් නෑ. ඉතින් ඇතැම්හු මුළු ත්‍රිපිටකයම ඉගෙන ගෙන ඉන්නෙ බුදුරජාණන් වහන්සේලාටයි, රහතන් වහන්සේලාටයි වැරදිච්ච තැන් හොයන්න. රහතන් වහන්සේලා වැරදි විදියට අර්ථ ඉස්මතු කරපු තැන් හොයන්නනෙ ඇතැම්හු බණ පොත් කියවන්නේ. ඵලක් තියෙනවාද, කිසී ඵලක් නෑ ජීවිතේට. ඒ නිසා ධර්මය ඉගෙන ගන්න ඕන තමන්ගේ ජීවිතේට පිහිටක් පතාගෙන තමන්ගේ ජීවිතේට ආරක්ෂාවරණයක් පතාගෙන, තමන්ගේ මේ අසරණ ජීවිතයට පිහිටක් හදාගන්න අදහසින්. ඒකට තමයි කියන්නෙ ධර්මය හිතට ගන්නවා කියලා. එකත්පසෙක වාඩිවුනා. එකත්පසෙක වාඩිවෙලා අර කියාදීපු විදියට ධර්මය පුරුදු කරනකොට ඔන්න බලන්න වෙච්චි දේ. මම පුබ්බේනිවාස ඤාණය ගැන සිහිකරන්න දැන් දන්නවා. ත්‍රිවිද්‍යාව සාක්ෂාත් කලා. ත්‍රිවිද්‍යාවන් අතරේ පළවෙනි විද්‍යාවනෙ පුබ්බේනිවාසානුස්සති ඤාණය. ඔන්න ඇය ධර්මයේ හැසිරෙනකොට ඇය උපදවාගත්තා කියනවා පුබ්බේනිවාස ඤාණය. දිවැසත් පිරිසිදු කරගත්තා. අනුන්ගේ සිත් දකින ඤාණයත් මට දැන් තියෙනවා. ඒ කියන්නෙ තමන්ගේ හිතින් තව කෙනෙකුගේ හිත දැකීමේ හැකියාවත් ඒ උත්තමාවිය උපද්දලා තියෙනවා. දිව්‍ය කණත් මං පිරිසිදු කරගත්තා. ඍද්ධි ප්‍රාතිහාර්ය පාන්නටත් පුලුවනි. ආස්‍රවයන් ක්ෂය කරලා මං අර්හත්වයට පත්වුනා. ඉතින් ඒ උත්තමාවිය බොහෝ වෙලාවට මේ ගාථාවන් පවසන්න ඇත්තේ, මේ ගාථාවන් දේශනා කරන්න ඇත්තේ පිරිනිවන් පාන්න ආසන්න සමයේ අනිත් භික්ෂුණීන් වහන්සේලාට වීර්ය උපදින්න. මොකද මේ වයෝවෘද්ධ භික්ෂුණියක්. ඇගේ චරිතාපදානය ඉගෙන ගන්නකොට තේරෙනවා බොහෝම වයෝවෘද්ධ භික්ෂුණියක්. වයසට ගිහිල්ලා පැවිදි වෙලා ජීවිතේ අන්තිම කාලෙත් ගොඩාක් අමාරුවෙන් දහම් මාර්ගය පුරුදු කරලා විසිපස් අවුරුද්දක් තිස්සේ මේ අසුරක් ගහන මොහොතක් වත් හිත එකඟ වෙන්නෙ නැතිව හිටපු කෙනෙක්, අන්තිම මොහොතේ ධර්මය අවබෝධ කරපු හැටි. මං මේ අභිඥා ඔක්කොම ලැබුවා, බුද්ධ ශාසනය සම්පූර්ණ කරගත්තා කියලා ඒ අර්හත් තෙරණිය මේ උතුම් ගාථාවන් අවසන් කලේ. ඒ අපි ඉගෙන ගත්තේ ථෙරී ගාථා පොත්වහන්සේගේ එක්තරා තෙරණියකගේ ගාථා නමින් සඳහන් කොටස. ඉතින් මේ සම්බුද්ධ ශාසනයේ නිවන් සුවය සාක්ෂාත් කරපු ඒ අර්හත් උත්තමාවියට නමස්කාර කරමින් අපිත් අදහසක් ඇති කරගමු අපිටත් මේ බුද්ධ ශාසනය තුළ සුවසේ සීල, සමාධි, ප්‍රඥා දියුණු කරගෙන ධර්මාවබෝධය පිණිස හේතුවෙන පුණ්‍ය ධර්මයන් සුවසේම

රැස් කරගෙන ඒ උතුම් රහතන් වහන්සේලා රහත් තෙරණින් වහන්සේලා නිවී සැනසුන අමා නිවනේ සැනසෙන්න අප හැමදෙනාටත් වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!!

අප විසින් රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අපි අනුමොදන් කරමු සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවියෝ මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. අපගේ ඉෂ්ටකාමී හිතකාමී සියලු දෙවිවරුන් ශ්‍රීමත් සුමන සමන් දෙව්රජුන් ඇතුළු ලංකාභූමිය සුරකින්නා වූ සියලු දෙවිවරුන් සතුටු සිතින් පින් අනුමෝදන් වෙලා දෙවියෝ දිව්‍ය සැපයෙන් වැඩේවා. දෙවියන්ගේ ආශිර්වාදය, රැකවරණය, උපකාරය අපි හැමදෙනාහට දෙවියෝ නොඅඩුවම සලසා දෙත්වා. දෙවියෝ ද සංසාර දුකින් අතමිදේවා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අපගේ කල්‍යාණමිත්‍ර මාගේ ගුරුදේවෝත්තම පරම පූජනීය  පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව, නීරෝගීව දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. මේ ගෞතම ශාසනය තුළ උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද දවසේ ධර්ම දානමය පින්කම සිදු කරන ඒ සුපින්වතුන්ලාගේ ප්‍රධාන අරමුණ ලෙස සඳහන් කොට ඇති පරිදි ඒ තමන්ගේ ආදරණීය දෙමව්පියන්ට නිට්ටඹුව, හුඹුටියාවේ නො.217/3 ඒ නිවසේ පදිංචි ජනවාරි මාසයේ 6 වන දිනට උපන්දිනය සැමරූ විශ්‍රාමික විදුහල්පති පින්වත් ඩබ්ලිව්.එම්. හේරත් වන්නිනායක පියාණන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ජූනි මාසේ 18 අද දින උපන්දිනය සමරන විශ්‍රාමික පාඨශාලාචාරිනී පින්වත් ඩී.එම්. නයනකාන්ති මෑණියන්ට මේ සියලු පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදය සැලසේවා. ඒ මෑණියනුත් පියාණනුත් නිදුක් වෙත්වා, නීරෝග වෙත්වා, සුවපත් වෙත්වා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. සුවසේ දහම් මග දියුණු කරගන්න, සුවසේ පින් රැස් කරගන්න අවකාශ ලැබෙත්වා, මේ ගෞතම ශාසනයේ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ධෛර්යය ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. නිකවැරටිය, කන්දේගෙදර, නො. 202 දරණ නිවසේ විසූ මියපරලොව ගිය ඩබ්ලිව්.එම්. ගුණරත්හාමි මුත්තණුවන්ට, පී.එම්. බණ්ඩාර මැණිකා මිත්තණියට, නිට්ටඹුව හුඹුටියාවේ නො.212 නිවසේ පදිංචිව සිට මියපරලොව ගිය ඩී.එම්. පෙරේරා මුත්තණුවන්ට, එස්. ඇගිනෝනා මිත්තණියට ඇතුළු තමන්ගේ නමින් මියගියාවූ සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. නමින් මියගියා වූ සියලු ඥාතීන්ගේ පරලොව ජීවිතය

සැපයටම පත්වෙත්වා. අපගේ ඥාතීන් මේ දුක් සහිත සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදනාව සිදු කරන්න. කොරෝනා වෛරසය හේතුවෙන් රෝගාතුරව සිටින ලංකාවාසී ලෝකවාසී හැමදෙනාට අපි සෙත් ප්‍රාර්ථනා කරමු. මේ රැස් වූ පින් වල ආශිර්වාදයෙන්, තෙරුවන් සරණින්, සියලු දෙවියන්ගේ රැකවරණයෙන්ම ඉතා ඉක්මණින්ම නිදුක් නිරෝග සුව ලැබේවා කියලා සෙත් පතමු. අද ධර්ම දානය සිදු කරන්නේ මැලේසියාවේ සේවයේ නියුතු චතුරිකා වන්නිනායක දියණිය. නිකවැරටිය පදිංචි පින්වත් රිද්මිණී වන්නිනායක දියණිය, නිට්ටඹුවේ පදිංචි පින්වත් ඉසුරු වන්නිනායක පුතුන් ඇතුලු ඒ පවුලේ දූදුරුවන් විසින්. ඒ හැමදෙනාට මේ සියලු පින් අනුමෝදන් වෙලා ජීවිතයට සියලු යහපත අභිවෘද්ධිය සැලසේවා. ඒ විදෙස්ගතව ආදී කරන කියන සියලු කටයුතු කිසි කරදරයකින් බාධාවකින් තොරව සුවසේ කරගන්න ලැබේවා. රැකී රක්ෂා ආදිය, අධ්‍යාපන කටයුතු ආදිය, මේ හැමදේම සර්වප්‍රකාරයෙන් සඵල වේවා. ඒ වගේම ජීවිතයට නිරතුරු කල්‍යාණමිත්‍ර ඇසුර සත්පුරුෂ ඇසුර සැලසේවා. සුවසේ පින් රැස් කරගන්න, සුවසේ දහම් මග දියුණු කරගන්න අවකාශ ලැබේවා. ශ්‍රද්ධා මාසික ධර්මදාන සාමාජික පින්වතුන්ලා සෑම සියලු දෙනාට ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ හැමදෙනාට සුපින්වත් ඔබ සියලු දෙනාට ගෞතම ශාසනය තුළ සුවසේම ධර්මාවබෝධ කරන්න ලැබේවා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=XQegTBzT1Rk

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු මේ දේශනාවලදී අපි ඉගෙන ගන්නේ ගෞතම සම්මා සම්බුද්ධ ශාසනයේ තමන්ගේ ජීවිතයේ අමා නිවනේ සනසාගත්ත මහා පින්වන්ත කාන්තාවෝ රහත් තෙරණිවරු ගැන. ඒ රහත් තෙරණිවරුන්ගේ විස්තර අතරේ අද අහන්න ලැබෙන සිදුවීම හරීම පුදුම සහගත එකක්. ඒ කියන්නෙ පින්වන්ත අයට සත්පුරුෂයා මුණගැහෙන විදිය, පින තියෙන කෙනාට සත්පුරුෂයා මුණ ගැහෙන විදිය, ඒ සත්පුරුෂයා මුණගැහෙන්න යෙදෙන කාරණා හරි පුදුම සහගතයි, අපිට හිතාගන්නවත් බෑ මේ පින් තියෙන කෙනාට ඒ අවස්ථාව මුණගැහෙන්නේ කොයි ක්‍රමයටද කියලා. ඉතින් එහෙම සිද්ධියක් තමයි අද අපිට මේ ධර්ම දේශනාවේදී ඉගෙන ගන්න ලැබෙන්නෙ, අද දේශනාවට දායකත්වය දරනු ලබනවා කිරුළපන පදිංචි පින්වත් සුයාම මලලසේකර මහත්මා සහ වෛද්‍ය සුලක්ෂි රාජපක්ෂ මහත්මිය විසින්. ඒ පින්වතුන්ලාගේ ධර්මදාන දායකත්වයෙනුයි අද මේ දහම් කතාව ඔබට ශ්‍රවණය කරන්න ලැබෙන්නෙ. විමලා නම් වූ අර්හත් උත්තමාවියගේ චරිතාපදානයයි. අද ඉගෙන ගන්නෙ විමලා කියන රහත් තෙරණින් වහන්සේගේ චරිත කතාව. ඒ විමලා රහත් තෙරණින් වහන්සේගේ චරිත කතාව සම්බන්ධයෙන් අටුවා විස්තරයකවත් අතීත පුවතක්, පෙර ජීවිතයක පුවතක් නැහැ. ඇය මේ ජීවිතයේ නගර සෝභිනියක්. නගරසෝභනී කියලා කියන්නෙ වෛශ්‍යාවක්, ගණිකාවක්. වෙසඟනක් ඇය. බොහෝම ලස්සන රූපයක් තිබුනු කෙනෙක්. ඒ ලස්සන රූපය නිසාම විශාලාවේ රජදරුවො තීරණය කලා ඇයට නගරසෝභනී කියන තනතුර තබන්න. ඔය නගරසෝභනීලා ඒ කාලෙ පත්කරලා තියෙන්නෙ රජවරු විසින් ඒ ස්ත්‍රියව එක පුරුෂයෙකුට දෙන්න බැරි මට්ටමට ආපුවාම. ඒ කාලෙ බොහෝ නගරසෝභනියො ඔහොම හිටියානෙ. අම්බපාලි කියන්නෙ නගරසෝභනියක්. අඩ්ඪකාසී කියන්නෙ නගරසෝභනියක්. මේ වගේ නගරසෝභනියො හිටියා. ඒ නගරසෝභනියන්ව රජවරු පත් කරලා තියෙන්නෙ යම් ස්ත්‍රියක් ගොඩාක් රූපයෙන් ලස්සන වුනාම, පඤ්ච කල්‍යාණයෙන්ම යුක්ත වුනාම ඒ ස්ත්‍රිය සම්බන්ධයෙන් පුරුෂයො කීප දෙනෙක් කලකෝලහාල කරගන්න පටන් ගන්නවා. සමහර වෙලාවට ඒවට මැදිහත් වෙන්නෙ ප්‍රභූ පවුල්වල තරුණයො. ඊටපස්සෙ මේ රජපවුල් සිටුපවුල් වගේ මහපවුල් අතරේ ඝට්ඨන. හරි අර්බුද හටගන්නවා. ඉතින් ඒවගේ නඩු විභාග කරන්න ගියාම රජවරු අසරණ වෙනවා, එක්කෙනෙකුට දීලා එක්කෙනෙකුට නොදී ඉන්න බැහැ. අන්න එහෙම අවස්ථා යෙදුනාට පස්සෙ රජවරු තීරණය

කරනවා ඒ ස්ත්‍රියාව නගරයේ නගරසෝභනී කියන තනතුරට පත්කරන්න. ඉතින් නගරසෝභනී කියන එකේ අදහස නගරය හැඩකරන්නී, නගරය සුන්දර කරන්නී වගේ අදහසක්. එතකොට නගරයේ ඉන්න ඒ සුන්දර ලස්සන රූපය තියෙන කාන්තාව නගරසෝභනිය කලාම ඇයව ඕන පුරුෂයෙකුට ඇගේ වටිනාකමට මුදලක් ගෙවලා ඒ මුදලට ඇසුරු කරන්න පුලුවන්. ඇයට නොලැබී යනවා ස්වාමිපුරුෂයෙක් එක්ක දරුපැටව් හදාගෙන තමන්ගේම කියලා ලස්සන විවාහ ජීවිතයක් ඇයට නොලැබී යනවා. ඒ නිසා මේ නගරසෝභනියන් බවට පත්වෙච්චි අයගේ අතීත පුවත් සඳහන් වෙන හැම තැනකම තියෙන්නෙ නගරසෝභනියො වෙසඟනක් බවට පත්වෙලා තියෙන්නෙ අතීත සසරේ කරපු කර්ම විපාකයක් නිසා. පාපකර්මයක විපාකයක්. ගොඩාක් වෙලාවට ගුණවත් අයට කරපු අපහාසයක්, නින්දාවක්. ඒකෙන් තමයි නගරසෝභනියන්, වෙසඟනන් වෙලා ඉපදිලා තියෙන්නෙ. දැන් මේ විමලා තෙරණියගේ සම්බන්ධයෙන් එහෙම පුවතක් නෑ. නමුත් ඇයත් විශාලාවේ හිටපු නගරසෝභනියක්. මේ නගරසෝභනිය ඉතින් ඔය විදියට මේ විශාලාවේ හිටපු නොයෙක් පුරුෂයන්ව තමන්ගේ වසඟයේ සතුටු කර කර වාසය කරනකොට ඇයව ඇසුරු කරපු එක පුරුෂයෙක්ගෙන් ඇයට ඇරයුමක් ලැබුනා විමලා, අහවල් දවසේ අහවල් වෙලාව වෙනකොට අසවල් උද්‍යානයේ අසවල් තැනට ඇවිල්ලා ඉන්න. මම එතනදි ඔයාව හම්බෙනවා කියලා මේ නගරසෝභනියට පොඩි තුණ්ඩු කෑල්ලක පණිවිඩයක් ආවා. එතකොට මේ විමලා බොහෝම හැඩට සැරසුනා. ඒ පුරුෂයාගේ හිත් ඇදගන්නා විදියට සැරසුනා. කකුල් දෙකේ නූපුර ගැටගහගත්තා. ආභරණ පැළැන්දුවා. යටිපතුල් රෝස පාට කරගත්තා. සුවඳ විලේපන තවරාගත්තා. හොඳ ලස්සන ඉන්දියන් සැරසිල්ලකින් සැරසිලා ඇය යනවා. ඇය උද්‍යානයට යනකොට මේ උද්‍යානයට යන වෙලාවේ ඒ උද්‍යානයේ විවේකය පිණිස වැඩම කරලා ඉන්නවා අපේ මහාමොග්ගල්ලාන මහරහතන් වහන්සේ. මහාමොග්ගල්ලාන මහරහතන් වහන්සේ කියලා කියන්නෙ පුදුමාකාර සුන්දර රූපයක් තිබුනු කෙනෙක්. හරීම කඩවසම් කෙනෙක්. උන්වහන්සේ ගැන අපේ බණ පොත් වල සඳහන් වෙන්නේ මහාමොග්ගල්ලාන මහරහතන් වහන්සේගේ රූපය හරියට ඉඳුනිල් මැණිකකින් කරපු මූර්තියක් වගේ, ඒ තරම් ලස්සනයි. නිල්මැණිකකින් කරපු පිළිමයක් වගේ උන්වහන්සේ හැඩයි. උන්වහන්සේ රුක් සෙවණේ වාඩි වෙලා ඉන්නවා. විමලා කාත් කවුරුත් නැති මේ පාළු උද්‍යානයට එනකොට ඇ පුරුෂයෙක් පතාගෙන ආවෙ. ඇයට ඇස් අදහාගන්න බැරි තරම් කඩවසම්

දේහධාරී පුරුෂයෙක් මෙන්න රැක් සෙවණක සිවුරක් දරාගෙන ශාන්තව දෑස් පියාගෙන වාඩිවෙලා ඉන්නවා. මේ විමලාට මහා ඊර්ෂ්‍යාවක් හටගත්තා. මෙච්චර කඩවසම් රූපයක් ස්ත්‍රියකගේ ජීවිතේ සතුටු නොකර පැවිද්දකට පත්වෙලා. සිවුරක් දරාගෙන, බඹසරක් ආරක්ෂා කරනවා. මේ විමලා කල්පනා කලා, නෑ මං මේ කඩවසම් පුරුෂයාව මේ සුන්දර රූපයක් තියෙන පුරුෂයාව මගේ වසඟයට ගන්න ඕන. මේ වගේ පුරුෂයෙක් එක්ක සන්තෝෂ වෙන්න නැතිනම් නගරසෝභනියක් විදියට මගේ ජීවිතේ ඇති ඵලය මොකක්ද. ඇයට ඔය වගේ සිතුවිලි ආවා. ඇයට ඕන දැන් මුගලන් මහරහතන් වහන්සේගේ වහගෙන ඉන්න ඇස් දෙක ඇරගන්න. මොකද ඇය හිතනවා ඇස් දෙක ඇරියොත් නම්, උන්වහන්සේ මාව දැක්කොත් නම් මට වසඟ වෙනවා. උන්වහන්සේ මාව දැක්කොත් උන්වහන්සේට පැවිද්ද එපාවෙනවා. එතකොට විමලා, මුගලන් මහරහතන් වහන්සේගේ නෙතුයුග ඇරගන්න අදහසින් ගීතයක් ගායනා කරන්න පටන් ගත්තා, දැන් මේ පාළු උයනේ ඇය ලස්සනට කවියක් කියනවා. ඒ කවියේ තාලයට ඇය අත්පුඩි ගහනවා. කකුලේ බැඳලා තියෙනවා නූපුර. ඔය නූපුර වලින් සිලිං සිලිං කියලා සද්දෙ එන විදියට ඇය තාලෙට කකුල් තියනවා. ඇය උද්‍යානයේ තනි පංගලමේ බොහොම පුංචි නර්තනයක්. මේ නර්තනය කා උදෙසාද, මුගලන් මහරහතන් වහන්සේගේ නෙත් දෙක ඇරගන්න කරන නැටුමක්. මුගලන් මහරහතන් වහන්සේට මේ ශබ්දය ඇහෙනකොට මහරහතන් වහන්සේ දෑස් යුගල විවර කලා. දෑස් යුග විවර කරපු ගමන් ඇට හරි සතුටුයි, ආ, ඔහු ඇස් දෙක ඇරියා. දැන් ඔහුට මාව ජේනවා. දැන් ඔහු මාව දකිනවා. මගේ සුන්දර රූපය දකින කවර නම් පුරුෂයෙක් නම් වසඟ නොවී සිටීද. ඈ සලුපිලිවලින් වහගෙන ඉන්න තමන්ගේ සිරුර පෙන්නන්න පටන් ගත්තා. එහෙට මෙහෙට සළුපිලි ඉවත් කරන්න පටන් ගත්තා. ඇය දැන් පිස්සියක් වගේ මුගලන් මහරහතන් වහන්සේ වසඟ කරගන්න මුගලන් මහරහතන් වහන්සේ ඉදිරියේ මායම් දක්වනවා. ඒ මායම් දක්වනකොට සුළු මොහොතක් ඒ දෙස බලාගෙන ඉඳලා මුගලන් මහරහතන් වහන්සේ බොහොම සැරට කතා කලා. ඒයි ඇටසැකිල්ලකින් කරපු කුටියක් ඇති තැනැත්තී, මසින් නහරින් වහලා දාපු ඇඟක් ඇති තැනැත්තී, අශුචි පුරවාගෙන දුගඳ හමන ඇඟක් ඇති තැනැත්තී, ඒ විදියට ඉඳගෙන අනුන්ගේ ශරීර ගැනත් මගේ මගේ කියා හිතන තිට නින්දා වේවා. බොහොම තද වචනයක් එනවා ඈ සිහින ලෝකයක ඉන්නකොට ඒ සිහින ලෝකයේ ඉන්න තමන් සිතින් මවාගෙන ඉන්න පුරුෂයාගෙන් ඇට එන්නෙ බොහොම තද

සැරපරුෂ වචන. හැබැයි ඒ වචන වල තියෙනවා පුදුම අර්ථයක්. ඇටසැකිල්ලකින් කරපු කුටියක් ඇති තැනැත්ති. ශරීරය කියන එක බාහිරින් මොන මොන විදියට නිර්මාණය වෙලා තිබුනත් හැමදෙනාගේ ශරීර අභ්‍යන්තරයේ තියෙන්නෙ ඇටසැකිල්ලක්. ඇටසැකිල්ල සම්බන්ධයෙන් ගත්තහම අසවල් ඇටසැකිල්ල නම් හරිම ලස්සනය, අහවල් එක කැතය, අහවල් ඇටසැකිල්ල පාට වැඩිය, අහවල් ඇටසැකිල්ල පාට අඩුය කියලා මෙහෙම කතන්දරයක් නෑ, ඇටසැකිල්ල ගත්තහම නිසරුයි. හැම දෙනෙකුගේම ශරීර ඇතුලේ එහෙම ඇටසැකිල්ලක් තියෙනවා. හරියට ඇටසැකිල්ලකින් කරපු කුටියක් වගේ මේ සිරුර. මසින් නහරින් වහලා දාපු ඇඟක් ඇති තැනැත්තිය, හැමදෙනෙකුගේම ශරීර ගොඩනැගිලා තියෙන්නෙ මස් වලින්, නහර වලින්. මස් වලින් නහර වලින් ගොඩ නැගිච්ච ඒ ශරීරය හමකින් වැහිලා යනවා. ඒ හමින් වැහෙනකොට තමයි මේකට එක එක කත්නදර ගොඩනැගෙන්නෙ. හමෙන් වැහෙනකොට කියනවා තළෙළු හම, සුදු හම, රෝස පාට හම, කලුපාට හම, හමෙන් වැහෙනකොට තමයි මේකෙ අනිත් කතන්දරය ගොඩනැගෙන්නෙ, බාහිරට පේන එක. අරයාගෙ හම නම් අරයාගෙ හමට වඩා ලස්සනයි කියයි. මේ ඔක්කොම ගොඩනැගෙන්නෙ හමෙන් මේක වැහිලා ගියාට පස්සෙ. හැබැයි ඇත්තටම බැලුවොත් තියෙන්නෙ මස් ගොඩක්, නහර ගොඩවල්, ඊළඟට ඇටසැකිල්ලක්. අශූචි පුරවාගෙන දුගඳ හමන ඇඟක් ඇති තැනැත්තී, මේ ඇඟ ඇතුලේ සම්පූර්ණයෙන්ම පිරිලා තියෙන්නෙ අශූචි. දුගඳ හමන අශූචි, එක සුවඳවත් දෙයක් කියලා එකක් අපේ ශරීරය ඇතුලෙ නෑ, අපේ ශරීරය ස්වභාවයෙන්ම අසවල් කොටස සුවඳයි කියලා, එහෙම කිසිම කොටසක් නෑ. මේ ශරීරය සම්පූර්ණයෙන්ම අශූචි වලින්ම පිරී පවතිනවා. මේ ශරීරයෙන් හමන්නේ අශූචි ගඳක් මිසක් මේකෙ සුගන්ධවත් දේවල් නෑ. මේකෙ සුගන්ධවත් දේවල් නැති නිසා පින්වත්නි අපි සුවඳට ආසයි හැබැයි, ඒ නිසා අපි මේ ශරීරය සුවඳ කරනවා. මුඛය සුවඳ කරනවා, ඊළඟට ඇඟට නොයෙක් විලේපන තවරලා සුවඳ කරනවා, අඳින ඇඳුම් පැළඳුම් පවා සුවඳ කරනවා. අපි බලෙන් සුවඳ කරගන්නෙ ඇයි, මේකෙ ස්වභාවයෙන් කිසි සුවඳක් නැති නිසා. ඒ විදියට ඉඳගෙන අනුන්ගේ ශරීර ගැන මගේ මගේ කියා හිතන තිට නින්දා වේවා. තමන්ගේ ශරීරයත් හරියට අශූචි පුරවාපු මල්ලක් වගේ. එහෙම එකක් තියාගෙන තවත් අශූචි පුරවපු මලු වලට ආසා කරනවා. ඒකට ඉතින් නින්දා වේවා කියන්නේ නැතිව අන් කවරක් කියන්නද. ඒ අශූචි පුරවාගත් මල්ලක් වැනි තැනැත්තී, හමකින් වැසී ගිය ඇඟක් ඇති තැනැත්තී, පපුවේ ගෙඩි හදාගත්

තැනැත්තී, ප්‍රේතියක් වැනි තැනැත්තී, තිගේ සිරුරේ හැමතිස්සේම අශුචි වැගිරෙන තැන් නවයක් තියෙනවා. මුගලන් මහරහතන් වහන්සේ විමලාවට කියනවා තී හරියට අශුචි පුරවාගත්තු මල්ලක් බඳුයි. හමකින් වැසී ගියපු ශරීරයක් තියෙන්නෙ. පුරුෂයන්ගේ හිත් ආකර්ෂණය වෙන විදියේ නිමිති සටහන් ස්ත්‍රී රූපයක තියෙනවා. ඒ නිමිති සටහන් එක්ක තමයි මේ ස්ත්‍රිය මේ විදියට හැඩයි කියලා පුරුෂයා ආකර්ෂණය වෙන්නෙ. ප්‍රේතියක් වැනි තැනැත්තී, තිගේ සිරුරේ හැමතිස්සේම අශුචි වැගිරෙන තැන් නවයක් තියෙනවා කිව්වා. මේ ශරීරය ගත්තහම පින්වතුනේ අශුචි එළියට පිටාර ගලන අශුචි පිට කරන සිදුරු සහිතවනෙ අපේ මේ ශරීර තියෙන්නෙ. ස්ත්‍රී පුරුෂ ශරීර දෙකම එහෙමයි තියෙන්නෙ. ඇස් වලින් එළියට ගලන්නේ, ඇහැ කියන සිදුරෙන් එළියට ගලන්නේ අශුචියක්මයි. කබ, කඳුළු මේ ඇස් වලින් එළියට එනවා. කන් වලින් කණකාරළු එළියට එනවා. නාසයෙන් සොටු. කටෙන් කෙළ, සෙම. මූත්‍රා, මළපහ, දාඩිය, අශුචියක්මයි ගලන්නෙ. නවද්වාරයකින් හැමතිස්සේම අශුචි වැගිරි වැගිරී තියෙනවා. තිගේ සිරුරෙන් නව තැනකින් අශුචි වැගිරෙනවා. මේ සිරුර ඉතා දුගඳයි. තිගේ සිරුර නිවන් මගට ඇති ලොකුම බාධාවයි. පිරිසිදු ජීවිතයක් කැමැති භික්ෂුව විසින් ඒ අශුචි වල දුරින්ම දුරු කළ යුතුයි. මුගලන් මහරහතන් වහන්සේ ධර්මය වදාළා. බලන්න ඇයට ධර්මය අහන්න ලැබිච්ච විදිය. මං ඒකයි ආරම්භයේදීම කිව්වේ පින් තියෙන අයට සත්පුරුෂයා මුණගැහිච්ච විදිය, සත්පුරුෂ ඇසුර හම්බවෙච්චි විදිය හරි පුදුම සහගතයි පින්වතුනි. හොඳට බැනුම් ඇහුවා. මේ තනිපංගලමේ හිටපු මුගලන් මහරහතන් වහන්සේට මායා පෙන්වන්න ගිහිල්ලා හොඳට බැනුම් අහගත්තා. හරියට තිගේ ශරීරය කියලා කියන්නෙ අශුචි වලක් වගේම කියලා අහගත්තා. නිවන් මගට තියෙන බාධාව ඕකමයි කිව්වා. පිරිසිදු ජීවිතයක් කැමැති භික්ෂුවක් නම් හරියට මේ වැස්ස කාලෙට පිටාර ගලනකොට අශුචි වලවල් ඒවා සමීපයටවත් කිසි කෙනෙක් යන්න කැමැති නෑනෙ. අන්න ඒ වගේ තීව දුරින්ම දුරු කරලා දානවා කිව්වා පිරිසිදු බව කැමැති කෙනා. ඉතින් එහෙම බැනුම් අහනකොට හැබැයි මේ කාරණා සැරට අහන්න ලැබෙනකොට ඇගේ නුවණ මේරුවා. ඒකයි පින කියන්නෙ. දැන් මේ වගේම සිදුවීමක්නෙ මාගන්ධියාගේ සිද්ධිය. මාගන්ධියාවට බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කලානෙ මේ සිරුරේ ඇත්ත ගැන. මාගන්ධියාට ඒ කතාව ඇහෙනකොට මාගන්ධියාට කේන්ති ගියානෙ. ඇයි හේතුව මාගන්ධියාට පිනත් නෑ, මොළෙත් නෑ. පිනත් නෑ, ඥාණයත් නෑ. හැබැයි මේ විමලාව ගැන බලද්දි තේරෙනවා, විමලාවට හොඳ

නුවණක් තිබුනා, විමලාවට පිනත් තිබුනා. ඉතින් මේ අශුචි පිරුණු ශරීරය ගැන මං දන්න දේවල් තව කෙනෙක් දන්නවා නම් ඒ කෙනා මේ ස්ත්‍රියව දුරින්ම දුරු කරන්නේ වැස්ස කාලෙට උතුරන අශුචි වලක් දුරු කරනවා වගෙයි. මේ ස්ත්‍රී රුවට පිස්සුවෙන් බැඳිලා යන ලෝකයේ එතකොට කොච්චර අනවබෝධයක ඉන්නවාද. රහතන් වහන්සේ නමක් අවබෝධයෙන් දන්න දේවල් යම් කෙනෙක් දන්නවා නම් මේ ස්ත්‍රී රුවට වසඟ වෙලා යනවා කියලා යමක් ඇද්ද මේ ලෝකයේ ඒක සම්පූර්ණයෙන්ම නැතිව යනවා. පුරුෂයො ස්ත්‍රී රුවට පිස්සු වැටිලා යනවා කියලා එකක් තියෙනවානෙ. ඒක තියෙන්නේම අනවබෝධය නිසා. ස්ත්‍රිය පුරුෂයන්ට වසඟ වෙවී යනවා කියලා එකක් තියෙනවානෙ. ඒක තියෙන්නෙ අනවබෝධයක් නිසා. අවබෝධය කියන එක එතන තිබ්බා නම් පින්වතුනි, එතන මේ තෘෂ්ණාවෙන් රාගයෙන් පිස්සු වැටෙනවා කියන කාරණය පිහිටන්නෙ නෑ. ඔය ඔක්කොම අහගෙන ඉඳලා මේ නුවණ තිබුනු, පින තිබුනු ස්ත්‍රිය, ස්ත්‍රීන් අතරේ නුවණත් තිබුනු පිනත් තිබුනු ස්ත්‍රියක් වුනු විමලාව, නැත්නම් මේ ටිකත් අහගෙන හිටියා නම් නුවණත් නැති පිනත් නැති ස්ත්‍රියක් මේ හාමුදුරුවො කරන්නෙ බණට කාන්තාවට බයින එක නොවැ කියලා මේවටත් ප්‍රශ්න හදාගන්නවානෙ. මේ ධර්ම දේශනාවට කරන්නෙ සම්පූර්ණයෙන්ම කාන්තාවට බනින එකනේ කියලා සමහරු ප්‍රශ්න හදාගන්නෙ, මෝඩ විදියට හිතලා. මේ වගේ කාරණා මුල් කරගෙන ඇතැම් කාන්තාවො මහා මෝඩ විදියට හිතනවා තමන්ගේ රූපෙන් උඩඟු වෙලා. තමන්ගේ ස්ත්‍රී භාවයෙන් උඩඟු වෙලා. හැබැයි විමලාව මේක හොඳට අහගෙන හිටියා. අහගෙන ඉඳලා කියනවා පින්වත් ශ්‍රමණයන් වහන්ස, ඔබ විසින් ඔය පැවසූ දේවල් සත්‍යයක්. මහා වීර ශ්‍රමණයන් වහන්සේ ඔය පැවසුවේ ඇත්තක්මයි, ඒ වුනත් ස්වාමීනී සමහර මිනිස්සු ස්ත්‍රී ශරීරයට ඇලෙන්නේ මඩ වගුරක් දැක්කහම ඒකෙ බැහැලා ගිලෙන නාකි හරක් වගේනෙ කිව්වා. ඔබ වහන්සේ ඔහොම කිව්වට සාමාන්‍යයෙන් පුරුෂයො අපේ ළඟට එන්නෙ, මේ හැඩකාර ස්ත්‍රී රුවක් දැක්කහම සාමාන්‍ය මිනිස්සු අපේ ළඟට එන්නෙ නාකි හරක් මඩවලක් දැක්කහම පැනගෙන ගිහිල්ලා ඒකෙ ගිලෙනවා වගේනෙ කිව්වා. එතකොට මුගලන් මහරහතන් වහන්සේ වදාළා එතකොට සාමාන්‍ය ලෝකයාගේ හැටි විමලාව හොඳට තේරුම් අරන් තිබුනා. මුගලන් මහරහතන් වහන්සේ වදාළා කවුරුහරි කෙනෙක් කහ පාටින් හරි වෙනත් පාටකින් හරි මේ ආකාශය සායම් කරන්න හිතුවොත් ඒ කෙනාට ඒක මහා වෙහෙසක්. කවුරුහරි පාට ටිකක් අරගෙන ලැහැස්ති වෙනවා අහසේ චිත්‍රයක් අඳින්න.

අහසේ, අවකාශයේ චිත්‍ර අඳින්න බෑනෙ. ඒක කරන්න බැරි දෙයක්. ඒක මහා වෙහෙසක්. මාගේ හිතත් අන්න ඒ ආකාශය වගේ. අභ්‍යන්තර ජීවිතය තුළ සිත සමාධිමත්වයි තියෙන්නෙ. ඒ නිසා මෝඩ ගෑණියේ මහා ගිනිජාලාවකට පනින පළඟැටියෙක් වගේ මාත් එක්ක ගැටෙන්න ඇවිල්ලා විපතට පත්වෙන්න නම් එපා. ඒ කිව්වෙ මොකක්ද, සාමාන්‍ය පුරුෂයො ගණයෙහි ලා මාව සලකන්න එපා කිව්වා. මම හරියට අහස වගේ. අහසේ චිත්‍ර අඳින්න බෑ වගේ, කෙලෙස් සටහන් මොකුත් මේ හිටින් නෑ කියන එකයි ඇට පැහැදුවේ. උන්වහන්සේ ධර්මය දේශනා කලා, පස්සචිත්ත කතං බිම්බං අරුකායං සමුස්සිතං ආතුරං බහුසංකප්පං යස්ස නත්ථි ද්වං ඨිතී - මේ ශරීරය ඇට වලින් ගලපලා හිටවලා තියෙන්නෙ. රෝග පීඩා වැළදෙන මේ ශරීරය ගැන මෝඩ ජනයා හිතන්නෙ වෙන විදියකට. ඒ ගොල්ලො මේ ශරීරය විසිතුරු විදියට සරසනවා. නමුත් බැලිය යුත්තේ නම් මේ ශරීරයේ සැබෑ තත්වය ගැනමයි. ස්ථිර කිසිදෙයක් මේ ශරීරයේ නෑ. අපේ මෝඩ ජනතාව කරනවා කියන්නෙ නිතර නිතර මේ ශරීරය සැරසීමෙන්ම සතුටු වෙනවා. ශරීරය සැරසීම, ජීවිතයේ ප්‍රධාන අංගයක් කරගන්නවා මෝඩ තැනැත්තා. සැරසිලි කර කර පවත්වන්න උත්සාහ කරනවා. ඒ පැවැත්වීම උදෙසාමනේ පින්වතුනේ ලෝකය නිර්මාණය වෙලා තියෙන්නෙ. ඒ කාරණය අපිට තේරුම් ගන්න පුලුවන් ඔන්න කලක් ගතවෙනකොට කළුවට තියෙන කොණ්ඩය සුදු වෙනවා. එතකොට ලෝකෙ අපි නිර්මාණය කරගෙන තියෙනවා සුදු වෙන කොණ්ඩෙ ආයෙ වතාවක් පාට කරන්න ක්‍රම. ඊටපස්සෙ හම රැළි වැටෙන්න පටන් ගන්නවා, ඔන්න හම රැලි වැටෙනකොට අපි ඒවටත් නොයෙක් බෙහෙත් හේත් හොයාගෙන තියාගන්නවා. මේ විදියට මේක අමුතු විදියකට නඩත්තු කරන්න උත්සාහ කරනවා මිසක්, ඒ නඩත්තු කිරීම කියන කාරණයෙන්ම සතුටු වෙනවා මිසක් ජීවිතය ගැන ඇත්ත හිතන්නෙ නෑනෙ. අපි පින්වතුනේ මේ ඇස්වලින් ලෝකය දිහා බල බල සතුටු වෙනවා. කාලයක් යනකොට වයෝවෘද්ධ භාවය විසින් ටිකෙන් ටික මේ ඇස් දුර්වල කරන් නැද්ද. දුර්වල කරනවා. දුර්වල වේගෙන එනකොට ඔන්න අපිට අමාරුයි. දැන් පොත් බලන්න බෑ, දුර තියෙන ඒවා පේන්නෙ නෑ. දැන් ඔන්න ප්‍රශ්න එනවා. එතකොට අපි ගිහිල්ලා ඇස් පෙන්වනවා. ඇස් පෙන්වපුවාම අපිට කණ්ණාඩි හදලා දෙනවා. කණ්ණාඩිය හදද්දි කණ්ණාඩිය කියන එකටත් තියෙනවා නානාප්‍රකාර විලාසිතා. රාමු තියෙන කණ්ණාඩි තිබේ. රාමු නැති කණ්ණාඩි තිබේ. කළුපාට කණ්ණාඩි තිබේ. නිල්පාට කණ්ණාඩි තිබේ. නොයෙක් කණ්ණාඩි. එතකොට ඒ

කණ්ණාඩිය හදලා දුන්නට පස්සෙ කණ්ණාඩිය දාගන්න මනුස්සයාට කණ්ණාඩිය දානකොටම අමතක වෙනවා මං මේ ඇස් පොට්ට වෙච්චි හින්දා කණ්ණාඩි දාන්නෙ කියලා. එයාට කණ්ණාඩිය දැමීම වෙනම විලාසිතාවක් බවට පත්වෙනවා. පුදුම මුලාවක් පින්වතුනි ලෝකෙ තියෙන්නෙ. ඒ කියන්නෙ සත්‍යය වූ ධර්මයකින් ලබන පහස කියන්නෙ, ඒක පිනකටම ලැබෙන එකක්. නැත්නම් මේකෙ තියෙන්නෙ මුලාව විතරයි. එකකින් එකකට, එකකින් එකකට පටලැවී පටලැවී යනවා මිසක් ගැලවිල්ලක් නම් නෑ. කණ්ණාඩියක් දාගත්තට පස්සෙ මතක් වෙන්න ඕන මනුස්සයෙකුට මගේ ඇස් මට මේ නොපෙනී යන්නේ, මං දැන් ජරාජීර්ණ වෙනවා කියන එක. ඒක මතක් වෙනවා වෙනුවට වෙන්නෙ කණ්ණාඩි දෙක දාගත්තට පස්සෙ ඒ කෙනා හිතනවා ෂා, මේ කණ්ණාඩි දෙකට මං හරි හැඩයි නොවැ. ඉතින් මේක තමයි ලෝකයේ ස්වභාවය. හැබැයි ශරීරය විසිතුරු ලෙස සැරසීම නෙවෙයි කියනවා කළයුත්තේ. මේ ශරීරය ගැන ඇත්ත ස්වභාවය බලන්න ඕන. මේකෙ ස්ථිර මොකුත් නෑ. පස්ස චිත්ත කතං රූපං මනිනා කුණ්ඩලේන ච අට්ඨිං චතේන කෝ නද්දං සහවත්තියේහි සෝභති - මුතු මැණික් ආභරණ වලින් සැරසුවත් සමකින් ඔතා තිබෙන ඇටසැකිල්ලක් ඇති මේ ශරීරයේ සැබෑ තත්වයමයි බලන්න ඕන. මේ ශරීරයක් ලස්සනට හැඩට පේන්නෙ ඇඳුම් නිසා. මේ ඇඟක් අමුතු විදියට හැඩ වෙලා පේන්නේ මොනවා හින්දද, ඇඳුම් ආයිත්තම් නිසා. එක එක ඇඳුමින් සරසා සරසා අපි මේක එක එක ස්වරූපයෙන් පෙන්වනවා. අපිත් බල බලා සතුටු වෙනවා, ඊළඟට බාහිර ලෝකෙටත් එක එක ස්වරූපයෙන් පෙන්වනවා. ඔන්න දවසක් නිල්පාට ඇඳන් යනවා. ඊළඟ දවසේ සුදු පාටට ඇඳන් යනවා. ඊටපස්සෙ උඩට එක පාටයි, යටට තව පාටයි. ඊළඟට සපත්තු දෙක වෙනම පාටක්. අපි මෙහෙම ඇඳ ඇඳ යනවා නේද. ඒ අඳින ඇඳුමින් තමයි මේකට සැරසිල්ලක් එකතු කරන්නෙ. අපි හිතමුකො ස්වභාවයෙන්ම මේක ලස්සනයි කියලා, ස්වභාවයෙන්ම මේක නිකං මහා ප්‍රිය උපදවන ස්වභාවයක් තිබුනා නම්, අපිට ඉතින් පුලුවන්නෙ එකම ජාතියෙ ඇඳුම් හදන්න. ඉතින් මොකද ඇඳුම කියන එකෙන් විශේෂ ලස්සනක් නැත්නම් අපිට තිබුනා එකම ජාතියෙ ඇඳුම ඇඳගෙන සාමාන්‍ය මනුස්සයා ඉන්නවා ඉතින් කොහොමත් ලස්සන නිසා කියලා. එතකොට හොඳට තේරෙනවා මේ කියන කාරණය, මේක හැඩවෙන්නෙ ඇඳුම් සහ ආභරණ නිසා. බලන්න ජීවිත කාලය ඇතුලේ අපි කොච්චර ඇඳුම් ගොඩක් අඳිනවාද. එක එක වර්ගයේ ඒවා, එක එක වර්ගයේ ඇඳුම් කොච්චරක් අඳිනවාද. අපි ගත්තොත් ස්ත්‍රීන් කරාබු කීපාරක් මාරු කරනවාද. මුදු වළලු කීපාරක් මාරු කරනවාද.

පළඳින මාල කී වතාවක් මාරු කරනවාද. කොණ්ඩ විලාසිතා කොච්චර වෙනස් කරනවාද. දාන සපත්තු කොච්චර මාරු කරනවාද. හැම එකක්ම බාහිර සැරසිල්ලක්. අලත්තක කතා පාදා මුඛං චුණ්ණක මක්ඛිතා අලං බාලස්ස මෝහාය නෝච පාර ගවේසිනො - යටි පතුල් පාට කරනවා. සුවඳ බුලත්විට කාලා මුඛය සුවඳවත් කරගන්නවා. හැබැයි ඕවා ඔක්කොම මෝඩ ජනතාවගේ මුලාවට නම් ගැලපේවි. නිවන හොයාගෙන යන කෙනෙකුට සැනසිල්ලක් හොයන කෙනෙකුට පිරිසිදු ජීවිතයක් හොයන කෙනෙකුට නම් ඕකෙන් ඇති පලක් නෑ කියනවා. ඒ කෙනාට තේරෙනවා මේක පාට ගෑමක් මේ තියෙන්නේ කියලා. මේකප් එකක් කලාට පස්සෙ මේකප් එකට තමනුත් රැවටෙනවා, බාහිර මිනිස්සුත් රැවටෙනවානෙ. හිතන්න කල්පනාව නැති නිසා. නැත්නම් හිතන්න කල්පනාව තියෙනවා නම් මනුස්සයෙකුට මේකප් එකකට රැවටෙන්න කාරණාවක් නෑනෙ. ඇයි මේක චිත්‍රයක්, ආලේපනයක්, ගාපු එකක් කියලා තේරෙන්න එපැයි. හැබැයි මේකප් කරපු ගමන්, මේකප් එකට තමනුත් රැවටෙනවා, ෂා ඒ මේකප් එකට නම් මං හරි හැඩයි. බාහිර අයත් රැවටෙනවා, එයා ඒ විදියට නම් හරි ලස්සනයි. ඒක මෝඩ ජනතාවගේ මුලාවට ගැලපෙන විදිය කියනවා. ජීවිතය ගැන ඇත්තක් හිතන, ජීවිතය නුවණින් කල්පනා කරන නිවනක් හොයාගෙන යන කෙනෙකුට නම් ඕකෙන් ඇති පලක් නැත. අට්ඨපාද කතා කේසා මෙත්තා අංජන මක්කිතා අලං භාලස්ස මෝහාය නෝච පාර ගවේසිනො, කෙස් වලින් නොයෙක් කොණ්ඩා මෝස්තර හදනවා. ඇස් වල අඳුන් ගානවා. මෝඩ ජනතාවගේ මුලාවට නම් ඔය කරන ඒවා ගැලපෙනවා. හැබැයි ඉතින් නිවනක් හොයාගෙන යන කෙනෙකුට ඕකෙන් පලක් නෑ. දැන් මේ කියන්නෙ කාටද, විමලාවට. විමලාව මේ ඔක්කොම ටික කරගෙනනෙ මෙතෙන්ට ඇවිල්ලා ඉන්නෙ. විමලා ඇස් වල අඳුන් ගාලා, යටි පතුල් රෝස පාට කරලා, මුඛයේ තියෙන මුඛ ගන්ධය  යන්න සුවඳ බුලත් විටක් කාලා මුඛය සුවඳවත් කරගෙන ඉතින් මෙහෙම තමයි විමලා ඇවිල්ලා ඉන්නෙ. විමලාවට කියනවා ඉතින් ඕවා ඔක්කොම කරනවා තමයි කියනවා මේක හැඩ කරන්න. ඉතින් ඕක මෝඩ ජනතාවගේ මුලාවට නම් ගානට ගැලපිලා යයි කියනවා. මෝඩ ජනතාව නම් ඕක දැක්ක ගමන් හරියට නාකි හරකෙක් මඩවලක් දැක්කා වගේ පැනගෙන එයි කියනවා. නිවනක් හොයාගෙන යන කෙනෙකුට ඔයින් පලක් නෑ. අංජනීව නවාචිත්තා පූතිකායො අලංකතො අලං බාලස්ස මෝහාය නෝච පාරගවේසිනො - මේ කුණු ශරීරය තියාගන්න හදන්නේ ලස්සනට පාට කරලා කැටයම් කරපු කුණු භාජනයක් වගේ. මෝඩ ජනතාවගේ

මුලාවට විතරයි ඒක ගැලපෙන්නෙ. නිවනක් හොයාගෙන යන කෙනෙකුට නම් ඔයින් පලක් නෑ. මේක හරියට තියාගන්න සූදානම් වෙනවා කියනවා, ඔන්න භාජනයකට කුණු පුරවලා, කුණු පිරෙව්වට පස්සෙ දැන් මේක කුණු ගඳයි. භාජනයෙන් කුණු ගඳ හමන්න පටන් ගන්නවා, අර කුණු පුරවලා තියෙන හින්දා ඒකෙ කිසි ප්‍රියමනාප බවක් නෑ. එතකොට මොකද කරන්නෙ, ඒ කුණු පුරවපු භාජනය බාහිරට ආසා හිතෙන විදියට කැටයම් කරනවා. ලස්සන රෙදි සැරසිල්ලක් දානවා. ලස්සනට පාට අරගෙන අඳිනවා. ඊළඟට මේ ඇතුලේ තියෙන කුණු වල ගඳ ලංවුනාට එන්නෙ නැති වුනාට මේකට එළියෙන් සෙන්ට් ගහනවා. ගහලා සුවඳවත් කරනවා. දැන් කෙනෙකුට ළඟට ආවට හොයන්න බෑ මේකෙ කුණු තියෙනවා කියලා. ඇයි බාහිරින් බැලුවත් කැටයම්. නොයෙක් රෙදි සැරසිල්ලකින් සරසවලා. බාහිරින් ගහපු සුවඳත් තියෙනවා. ඉතින් හොයන්න පුලුවන්කමක් නෑ. හොයන්න පුලුවන්කමක් නැති නිසා මෝඩ ජනතාව මුලාවෙන් යුක්තව ඒකට අහුවෙලා යනවා. හැබැයි නිවනක් හොයාගෙන යන, ඇත්ත ඇතිහැටියෙන් විදර්ශනා කරන කෙනෙකුට නම් ඕකෙන් පලක් නැත. මුව වැද්දා උගුල අටවලා තිබුනා. ඒ වුනාට මුවා ඒ උගුලට අහුවුනේ නෑ, මුව වැද්දා හඬමින් සිටිද්දි අපි ගොදුරු කාලා පැනලා යනවා, දැන් මේ විමලාවට තේරුම් කරනවා මුගලන් මහරහතන් වහන්සේ. ඔබ මේ පැමිණි පුරුෂයා දමනය වෙච්චි කෙනෙක්. වෙනම විදියේ කෙනෙක්, සාමාන්‍ය ජනයා වසඟ වෙන පිළිවෙලට වසඟ වෙලා යන චරිතයක් නොවෙයි මේ කෙනා. උන්වහන්සේ ඇයට මාර්ගයක් පෙන්වනවා. ඇයට නුවණ තිබ්බ නිසා ඇය ඒ මාර්ගය අල්ලගත්තා. නැත්නම් ඇයට සාමාන්‍ය මෝඩ පහේ ස්ත්‍රියක් නම්, දැන් අවසානයේ ඇයට කිව්වානෙ හරියට මේ කුණු භාජනයක් කැටයම් කරලා සළුපිළියෙන් සරසලා සෙන්ට් ගැහුවා වගේ මේක කියලා. ඒ වචනම කිව්වා. හැමතිස්සෙම සැරසි සැරසී ඉන්න ස්ත්‍රියාවකට මේක කිව්වෙ. ඇයට බාහිරින් රූපය ලස්සනට තිබ්බා වගේම ඇයට හොඳට නුවණ තිබුනා. නුවණ තිබුනු නිසාම නුවණැති වචනයට ඔළුව නමන්න තරම් නිහතමානීකමක් ඇයට තිබුනා, මොකද ප්‍රඥාව කියන එකත් එක්කම බද්ධ වෙන එකක් නිහතමානීකම. නිහතමානී තැනැත්තාත් එක්ක තමයි ප්‍රඥාව සම්බන්ධ වෙන්නෙ. ප්‍රඥාවන්තයත් එක්ක නිහතමානීකම සම්බන්ධ වෙලා තියෙනවා. එතකොට ප්‍රඥාව කියන එකෙන් වැඩෙන්න වැඩෙන්න නිහතමානීකම තියෙන හින්දා වෙන්නෙ පාත් වෙනවා. යහපත් වචනයට නැමෙනවා. සාමාන්‍යයෙන් හැබැවටම එල බර වෙනවා නම් අත්තක් හැබැවටම එල බර වෙනවා නම්

අත්තක්, ඒ අත්ත වෙන්නෙ එල බර වැඩි වෙන්න වැඩිවෙන්නෙ පහළට නැවෙන එක. අපි හිතමු නිකං ගෙඩි ගොඩාක් හැදිලා වගේ පේනවා, නමුත් අත්ත උඩ. වෙන්න බැරි එකක්, වෙන්න බැරි එකක් ඒක. එහෙම සංසිද්ධියක් තියෙනවා නම් සැක කරන්න සිද්ධ වෙනවා ගෙඩි තියෙනවා වගේ පෙනුනාට හැබෑවටම ගෙඩි නෑ, එල නෑ. එල සහිත කෙනා බර වෙනවා. ඒ වගේම ප්‍රඥාව සහිත කෙනාගේ ස්වභාවය නිහතමානී වෙනවා. විමලාවට තිබුනා ප්‍රඥාව. ඒ නිසා මේ විමලාව මේක අහගෙන ඉන්නකොට ඈ දැන් හොඳටම පැහැදිලා. මුව වැද්දාගේ උගුල කඩා බිඳලා දැම්මා. මුවා උගුලට අහුවුනේ නෑ. මුව වැද්දා දුක්වෙද්දී අපි ගොදුරු කාලා පැනලා දුවනවා. එහෙම මුව වැද්දාගේ උගුලට අහුනොවී පැනලා දුවන කාණ්ඩයේ පිරිසක් මේ බුදුරජුන්ගේ ශ්‍රාවකයෝ කියන කාරණය විමලාවට ඒත්තු ගැන්නුවා, අපේ මහා මොග්ගල්ලාන මහරහතන් වහන්සේ. ඉතින් ඔය විදියට කාරණා කියලා දුන්නට පස්සෙ විමලා හරී පැහැදුනා. විමලා කියනවා, උතුම් ශ්‍රමණයන් වහන්සේ දේශනා කරපු කාරණා මං හරි ආශාවෙන් අහගෙන හිටියෙ. ඔබවහන්සේ මගේ ඇස් පෑදුවා. මං ඔබ වහන්සේ සරණ යනවා කිව්වා. එතකොට මුගලන් මහරහතන් වහන්සේ කියනවා, ස්ත්‍රිය තී මාව සරණ යන්න එපා. මට මේ සරණ ලබාදුන්නෙ තිලෝගුරු බුදුරජාණන් වහන්සේ. තී ඒ බුදුරජාණන් වහන්සේව සරණ යන්න. ඒ බුදුරජාණන් වහන්සේ තමයි තුන්ලොවටම ශාස්තෘන් වහන්සේ. නුඹත් ඒ බුදුරජාණන් වහන්සේව සරණ යන්න කියලා බුදුරජාණන් වහන්සේගේ සරණට යොමු කලා. ඔන්න ඔහොමයි විමලාට තෙරුවන් සරණ ලැබුනේ. විමලා ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේව හොයාගෙන ගියා. භාග්‍යවතුන් වහන්සේ අභිමුඛයේ දහම් ඇසුවා. බුදුරජාණන් වහන්සේ සරණ ගිය, ධර්මය සරණ ගිය, ශ්‍රාවක සඟරුවන සරණ ගිය උපාසිකාවක් බවට පත්වුනා. විමලාව එහෙම උපාසිකාවක් විදියට කාලයක් ධර්මය පුරුදු කරද්දි භික්ෂුණීන් වහන්සේලා ඇසුරු කරද්දි ඇයට නොබෝ කලකින්ම හිතක් උපදිනවා පැවිද්දට. ඈ විශාලාවේ රාජකීය පිරිසගෙන් අවසර අරගෙන බුද්ධ ශාසනයේ පැවිද්දට පත්වුනා. පැවිද්දට පත්වෙලා නොබෝ කලකින්ම සියලු කෙලෙස් නැසූ අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. බලන්න පින්වතුනි, පින් තිබුනු අය පිළිසරණ හදාගත්ත පිළිවෙල. හිතාගන්න බැරි පිළිවෙලකට තමයි සත්පුරුෂයාව මුණගැහුනෙ. කල්‍යාණමිත්‍රයාව මුණගැහුනෙ, තමන්ගේ ජීවිතේට හැබෑ ආලෝකය උදා කරන කෙනාව මුණගැහුනෙ හිතන්නවත් බැරි ක්‍රමයකට. දැන් බලන්න ඒ විමලාවට ඒ කියන්නෙ මේ නුවණින් කල්පනා කරන්න දක්ෂකම කියන්නෙ විමලාවට බුද්ධ

ශාසනයට ආවට පස්සෙ නිකං අර හූල්ල හූල්ල ඉන්න කාරණාවක් වුනේ නෑනෙ. දැන් නැත්නම් සාමාන්‍යයෙන් මෝඩ පහේ ස්ත්‍රියාවක් නම් මේ වගේ සංසිද්ධියක් වුනාට පස්සෙ ආයෙ හිත හිතා හූල්ලනවා අයියෝ මං මේ බුද්ධ ශාසනයේ එච්චර ආනුභාව සම්පන්න බුද්ධ ශාසනයේ ද්විතීය අග්‍රශ්‍රාවකයන් වහන්සේ වන මුගලන් මහරහතන් වහන්සේත් එක්කද මේ පටලැවෙන්න හිතාගෙන උන්වහන්සේ ගැන කෙලෙස් සිතුවිලි වලින් මං හිතුවානෙ. අයියෝ උන්වහන්සේ ගැන රාග සිතුවිලි වලින් මං හිතුවානෙ. තනිපංගලමේ ඉද්දි උන්වහන්සේව සිවුරු ඇරවාගෙන උන්වහන්සේත් එක්ක වරදේ හැසිරෙන්න මං හිතුවානෙ. මං වගේ ලාමක එකියක් කිය කියා හිතලා නිකං මහ මෝඩ අදහස් වලට එන්නැද්ද. සාමාන්‍යයෙන් නුවණ මද කාන්තාවක් නම් ඔතන හරි පටලැවෙනවා. ඒ කිසි දෙයක පටලැවෙන්නේ නැතිව මේ විමලාව හරියටම ධර්මය ඇල්ලුවානෙ. අවසානෙ නිවනෙන් සැනසුනා. නිවසේ සැනසිච්චි විමලා රහත් තෙරණින් වහන්සේ මෙන්න මේ ගාථා වදාළා. මං ඉස්සර හරී ලස්සනයි. හරීම හැඩයි. හැම සැප සම්පතක්ම මට තිබුනා. මං ඒවායින් මුසපත් වුනා. යෞවන මදයෙන් මත්වුනා. හරිම අහංකාර කමින් මං හිටියේ, අනිත් කාන්තාවන්ව පහත් කරලා හිතුවෙ - ඇයි නගරයේ ඉන්න ලස්සනම ස්ත්‍රිය. ඒ නගරයේ ඉන්න ලස්සනම ස්ත්‍රිය නිසා තමන්ගේම රූවෙන් මත්වෙලා අනිත් කාන්තාවන්ව හෙලා පෙලා පහත් කොට තමයි සලකලා තියෙන්නෙ. ඉතින් මේ ගාථා ගැන බලනකොට තේරෙනවා මේ ගාථා ඒ උත්තමාවිය වදාරන්න ඇත්තෙ ජීවිතේ අවසාන කාලෙ. මොකද, මං ඉස්සර හරීම ලස්සනයි, හරීම හැඩයි. ඒ ඉස්සර තිබුනු ලස්සන හැඩ මේ ගාථා කියන කාලෙ වෙනකොට නැතිව ගිහිල්ලා. ඉතින් මං ඒ දවස් වල ලස්සනට ඇඳලා මේ ශරීරය සරසා ගන්නවා. මෝඩ ජනතාවගේ වර්ණනාවන්ට ගැලපෙන විදියට ඇඳගෙන මෝඩ ජනතාව යම් විදියකට ඉද්දී වර්ණනා කරනවාද, ෂා ඔහොම නම් ඔයාගෙ කොණ්ඩෙ හරී ලස්සනයි, ඔය මේකප් එක නම් හරි හැඩයි. එහෙම කියලා වර්ණනා කරන විදියට ඇඳගන්නවා. වේසාගෙයි දොරකඩට වෙලා ඉන්නවා. මුවන් අල්ලන්න උගුල් අටවන වැද්දෙක් වගේ. හරියට ඈ වේසාගෙයි දොරකඩට වෙලා හිටියේ මුවො අල්ලගැනීම පිණිස වැද්දෙක් උගුල් ඇටෙව්වා වගේ කියනවා, මොක්කුද මුවෝ, මේ ස්ත්‍රී රූපයට වසඟ වෙලා යන පුරුෂයන්ගේ හිත් අල්ලාගන්න. ඈ අමුතු අමුතු විලාසිතාවන්ගෙන් සැරසිලා නොයෙක් නොයෙක් මෝස්තර වලින් රූපය ඇඳගෙන ඈ වේසාගෙයි දොරකඩ ගාව හිටියෙ කියනවා. මං ඒකාලෙ ඇඳුම් ඇන්දෙ රහස් තැන් පිටට පේන විදියට. මෝඩ ජනතාව මගේ ළඟට නිකම්ම

ඇදිලා ආවා. මං උස් හඬින් හිනාවෙවී විවිධ මායාවල් කලා. ඒත් අද මං හිස මුඩු කරගෙන දෙපට සිවුරු දරාගෙන පිණ්ඩපාගෙත කරගෙන ජීවත් වෙනවා. ගස් යට කල් ගෙවනවා. ධ්‍යාන භාවනා කරනවා. මට සමාධිමත් සිතක් තියෙනවා. බුද්ධ ශාසනයේ අසිරිය. බලන්න පින්වතුනේ මේ බුදු සසුනේ කෙලෙස් සහගත මාවතේ ගියපු අය, අපායාගාමී වැඩපිළිවෙලක ගියපු අය, සම්පූර්ණයෙන්ම කෙලෙස් ඇවිස්සෙන පිස්සුවක් ඇතුලේ ජීවත් වෙච්චි අය බුදුරජාණන් වහන්සේ කියන මහා සත්පුරුෂ රත්නය ළඟට පැමිණිලා ජීවිතය සම්පූර්ණයෙන් සැපවත් කරගත්ත ලස්සන. ඇ සම්පූර්ණයෙන්ම තමන්ගේ ජීවිතය පුරුෂයන්ව ඇදබැඳ ගැනීම පිණිසම මේ විදියට මං ඇන්දොත් මිනිස්සු අහුවෙයි. ශරීරයේ මේ මේ තැන මං පෙන්නුවොත් මිනිස්සු මට කැරකිලා එයි කියලා එහෙම හිතලා කියනවා ඇඳුම් ඇන්දෙ. එහෙම ඇඳුම් ඇඳගෙන එන අයව මුසපත් කර කර, අන් අයගේ හිත් රාගයෙන් වසඟ කිරීම පිණිස උස් හඬින් හිනා වෙවී මායාවල් පෙන්න පෙන්න හිටපු ජීවිතයක්. හැබැයි සත්‍ය වූ බුදු දහම අහලා බුදුරජාණන් වහන්සේගේ සරණට පැමිණිලා ඇය දැන් ඉන්න විදිය කියනවා, ඇය දැන් ඉන්නෙ හරීම සතුටින් කියනවා. හිස මුඩු කරගෙන, දෙපට සිවුරු දරාගෙන පිණ්ඩපාතෙ කරගෙන ජීවත් වෙනවා. දිව්‍ය මානුෂික හැම බන්ධනයක්ම මං නැති කරලා දැම්මා. හැම ආස්‍රවයක්ම මං ගෙවලා දැම්මා. මං සිහිල් වුනා, නිවිලා ගියා. අන්න එහෙමයි විමලා නම් වූ රහත් තෙරණින් වහන්සේ මේ ධර්මය වදාළේ. ඉතින් මේ ධර්මයන් ගැන අපේ හිත පහදවාගන්න එක අපිටත් මේ සත්‍යය වූ නිර්මල වූ ධර්මය, සත්පුරුෂ ඇසුර ලැබෙන්න ඒකාන්තයෙන් හේතුවෙයි. සත්පුරුෂ ඇසුරමයි පින්වතුනේ පැතිය යුත්තේ මේ සසරේ. සත්පුරුෂ ඇසුර පැතුවොත් ඒ සත්පුරුෂ ඇසුරෙන් තමයි අපේ ජීවිතය සැපයට පත්වෙන්නෙ. හරියට සත්පුරුෂ ඇසුර ලැබුනා නම් ඒ සත්පුරුෂ ඇසුර ලැබුනාට පස්සෙ ජීවිතය පරිවර්තනය වෙනවාමයි. ඒකට හොඳ උදාහරණයක් මේ විමලා තෙරණියගේ සිදුවීම. සත්පුරුෂ ඇසුර හිතාගන්න බැරි විදියකට ඇයට ලැබුනෙ. හිතාගන්න බැරි විදියට පුදුම සහගත සිදුවීමකින් සත්පුරුෂයාව ඈට මුණගැහුනේ. හැබැයි මුණගැහිච්චි සත්පුරෂයාගේ ඇසුර සළසාගත්තා. ඇය තමන්ගේ ජීවිතය හිතාගන්න බැරි විදියට පරිවර්තනය කරගත්තා. නිවනේ සැනසුනා. ඉතින් මේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය ගැන හොඳට හිත පහදවගන්න. රාගයෙන් පිස්සු වැටිලා, දිනපතා රාගයෙන් පිච්චි පිච්චි හිටපු අයත් රාගය නැත්තටම නැති කලා, බුදුරජාණන් වහන්සේගේ ධර්මය නිසා. ඒ නිසා අපිටත් ඒ උතුම් ධර්මයේ හැසිරිලා ඒ විමලා අර්හත් තෙරණින් වහන්සේ,

ඒ වගේම අනිකුත් රහත් තෙරණින් වහන්සේලා, උතුම් රහතන් වහන්සේලා නිවී සැනසුනු අමා මහ නිවන අවබෝධ කරන්නට වාසනාව ලැබේවා, සාදු සාදු සාදු!!!

රැස් කල සියලු පින් අනුමෝදන් කරමු අපි සියලු දෙවිවරුන්ට සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවියෝ පින් අනුමෝදන්ව දෙවියෝ දිව්‍ය යසඉසුරින් වැඩේවා, දිව්‍ය සැපයෙන් වැඩේවා, ඒ සියලු දෙවියන්ගේ ආශිර්වාද අප හැමදෙනාට දෙවියෝ සලසත්වා. දෙවියෝද සංසාර දුකින් අතමිදේවා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව, නීරෝගීව, දීර්ඝායුෂ සම්පත් ලබත්වා. ගෞතම බුද්ධ ශාසනය තුළ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරගනිත්වා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද දවසේ ධර්ම දානය සිදු කරන ඒ පින්වතුන්ලාගේ නමින් මීට වසර හයකට පෙර මියපරලොව යන්න යෙදුනා වූ ගාමිණී මලලසේකර පියාණන්ට පින් අනුමෝදන් වෙත්වා. මියපරලොව ගිය ධම්මිකා සහ ලලිත් වෛද්‍යතිලක යන දෙපළට පින් අනුමෝදන් වෙත්වා. මියගිය ඉන්ද්‍රාණි සහ මහේන්ද්‍ර ජයසූරිය යන දෙපළටත් පින් අනුමෝදන් වෙත්වා. නමින් මියගියා වූ සියලු ඥාතීන්ට, සියලු හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන්ව, ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා. අපගේ ඥාතීන් මේ දුක් සහිත සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනාව සිදු කරන්න. ජූනි මාසෙ තිස් වන දිනට ජන්ම දිනය යෙදෙන පින්වත් චිත්‍රා මලලසේකර මැණියන්ටත්, ජූනි මාසෙ තුන් වන දින ජන්මදිනය යෙදෙන සුලක්ෂි රාජසූරිය මහත්මියටත්, මැයි මාසෙ 30 වන දින ජන්ම දිනය යෙදුනු පින්වත් ටිරාන් රාජසූරිය සහෝදරයාටත් මේ සියලූම පින්පෙත් අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. ඒ වගේම අද ධර්ම දානය සිදු කරන සුයාම මලලසේකර මහත්මාගේ සහ සුලක්ෂි රාජසූරිය මහත්මියගේ මාස තුනක් වයසැති පින්වත් විවාන් මලලසේකර බිළිඳු පුතාට මේ සියලූම පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදය සැලසේවා. ඒ විවාන් මලලසේකර පුතාට තෙරුවන් සරණින්, සියලු දෙවි රැකවරණින් නිදුක් නිරෝග සුවයම සැලසේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක පුතෙක් ලෙස සම්බුද්ධ ශාසනයේ පිළිසරණ ලබන්න වාසනාව ලැබේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම දීපිකා සහ අසාන්ත ජයසූරිය යන

දෙමව්පියන්ටත්, පවුලේ හැමදෙනාටත්, මේ සියලුම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා. අද ධර්මදානය සිදු කරන කිරුළපන පදිංචි පින්වත් ශ්‍යාම මලලසේකර මහතාට සහ වෛද්‍ය සුලක්ෂි රාජසූරිය මහත්මිය ඇතුලු පින්වත් හැමදෙනාට පින් අනුමෝදන් වෙලා, තෙරුවන් සරණින් සියලු දෙවි රැකවරණින් සියලු යහපත අභිවෘද්ධිය උදාවේවා, රැකී රක්ෂා ආදී ජීවිතේ සියලු යහපත් කටයුතු සර්වප්‍රකාරයෙන් සාර්ථක වේවා. කරන කියන කටයුතු සියල්ල දියුණුවට පත්වේවා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලා සියලුදෙනාට, ශ්‍රද්ධා කාර්යමණ්ඩලයේ සියලු දෙනාට, සුපින්වත් ඔබ සැම දෙනාට සුවසේ පින් පුරාගෙන, සුවසේම දහම් මග දියුණු කරගෙන ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබේවා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=1c3KpEXpZxA

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අපි මේ ජීවිතයේ නොයෙක් ආකාරයෙන් නොයෙක් දේ ශ්‍රවණය කරමින් සමාජයේ තියෙන නොයෙක් කතාබහ එක්ක අපි ඔහේ ගත කරන එකක්. ඒ ජීවිතයට බුදුරජාණන් වහන්සේ නමකගේ ධර්මයක් අහන්න ලැබෙනවා කියන එක ඉතාම දුර්ලභව ජීවිතයකට හම්බවෙච්චි වටිනා දෙයක්. අපි මේ ලංකා භූමියේ උපන්න නිසා, මේ ලංකා භූමියට අපේ මිහිඳු මහරහතන් වහන්සේ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී සද්ධර්මය දායාද කරපු නිසා ලංකා භූමියේ සමාජය තුළ අපිට බුදුබණ පද අහන්න අවකාශය තියෙනවා. හරියට ධර්මය කෙරෙහි පැහැදිච්චි

කල්‍යාණමිත්‍රයෙක්, සත්පුරුෂයෙක්, බුදුරජාණන් වහන්සේගේම ධර්මය කතා කරද්දි ඒක ඇහීමේ වාසනාව මේ ලංකාභූමියේ උපන්න අයට නොයෙක් ආකාරයෙන් උදාවෙනවා. හැබැයි ඒකත් ඉතින් හැමදෙනාටම ලැබෙන එකක් නම් නොවෙයි. හරිම සත්පුරුෂයෙක්, හරිම කල්‍යාණමිත්‍රයෙක් බුදුරජාණන් වහන්සේගේ ධර්මය නිවැරදිවම කියන කෙනෙක් හම්බවුනොත් අපිට ඒ වාසනාව උදාවෙනවා. වාසනාව කියන කාරණාව ගත්තහම ධර්මය අහන්න, ධර්මයේ හැසිරෙන්න ලැබෙන වාසනාව කියන කාරණය ගත්තොත් ඇතැම් අයට ඒ වාසනාව උදාවෙලා තියෙන්නෙ තමන්ගේ පවුල් සංස්ථාවේ කෙනෙක් හරියට සරණේ පිහිටපු නිසා. තමන්ගේ පවුල් සංස්ථාව තුළ, තමන්ගේ පවුල් පසුබිම තුළ එක්කෙනෙක් හරි හිටියොත් හරියට ධර්මයේ පිහිටපු ඒක ඒ පවුලේ අනිත් හැමදෙනාට ආශිර්වාදයක් බවට පත්වෙනවා. ඉතින් ඒක අද මේ ඉගෙන ගන්න දහම් කතාවෙන් හොඳට තේරෙනවා. අද දහම් කතාවට දායකත්වය දරනු ලබන්නේ අද දවසේ හතළිස් එක්වෙනි උපන්දිනය යෙදෙන පින්වත් ධම්මික සරත් ස්වාමිපුරුෂයාටත්, ජූනි මාසයේ 19 වන දින පනස් තුන්වෙනි ජන්ම දිනය යෙදුනු පින්වත් එම්.චන්ද්‍රාවතී මෑනියන්ටත් සෙත් ප්‍රාර්ථනා කරන අදහසින් කැබිතිගොල්ලෑව, වාහල්කඩ, බී 2 යන ලිපිනයේ පදිංචි ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජිකාවක් වන පින්වත් මේනකා ප්‍රියදර්ශනී මහත්මිය විසින්. ඒ අමා නිවන් දුටු රහත් තෙරණිවරු මේ දේශනා මාලාවේ අද අපි ඉගෙන ගන්නේ සීහා කියන අර්හත් තෙරණියගේ චරිතාපදානය. මේ සීහා නම් වූ රහත් තෙරණිය, ඇගේ අතීත ජීවිතේ ඒ කියන්නෙ ඈ මේ ජීවිතේ ජන්ම ලාභය ලැබුවේ විසාලාවේ. විසාලාවේ ඔබ අහලා ඇති සීහ සේනාපතී කියලා කෙනෙක් ගැන. ධර්මය අහනකොට ඔබ අහලා ඇති සීහ සෙන්පති. අන්න ඒ සීහ සෙන්පතිගේ නැගණියගේ දුව විදියටයි මැය උපන්නෙ. ඇය අතීත ජීවිතේ ගොඩාක් පින් කරගෙන තිබුනු කෙනෙක්. එහෙම පෙර ජීවිත වල කරපු පින් බලය නිසා බුදුරජාණන් වහන්සේගේ ධර්මය කෙරෙහි හිත් පැහැදුනු තෙරුවන් සරණ ගිය ශ්‍රාවක ශ්‍රාවිකාවො වන පවුල් පසුබිමක ඔන්න ඇයට උපදින්න වාසනාව ලැබුනා. ඒ තෙරුවන් සරණ ගිය ශ්‍රාවක ශ්‍රාවිකාවො හිටපු පවුල් පසුබිම මොකක්ද? සීහ සෙන්පති තුමාගේ පවුල් පසුබිම. සීහ සේනාපති සම්බන්ධයෙන් බොහෝ දේශනා, දේශනා කිහිපයක්ම සූත්‍ර පිටකයේ අන්තර්ගත වෙනවා. ඒ දේශනා අතරේ සීහ සේනාධිපති බුද්ධශාසනයට පැහැදුනේ කොහොමද, අන්න ඒ කාරණය අපිට මේ අද දේශනාවෙන් ඉගෙන ගන්න එක වටිනවා. මොකද සීහා අර්හත් උත්තමාවියගේ සිදුවීමට ඒකත්

සම්බන්ධ වෙන නිසා. සීහ සේනාපතියි කියලා කියන්නෙ පින්වතුනේ විසාලා මහනුවර හිටපු රාජකීය සෙන්පතියෙක්. සේනාපති කෙනෙක්. භාග්‍යවතුන් වහන්සේ ඒ කාලෙ විසාලා මහනුවරට වැඩම කලා. විසාලා මහනුවර කූටාගාර ශාලාවේ තමයි භාග්‍යවතුන් වහන්සේ ඒ කාලයේ වැඩ වාසය කලේ. ඔය කාලයේ ප්‍රසිද්ධ ප්‍රසිද්ධ ලිච්ඡවීන් රැස්වීම් ශාලාවට එකතුවුනා. මේ ලිච්ඡවීන්ගේ තිබ්බෙ සමූහාණ්ඩු ක්‍රමයක්නෙ. එතකොට පිරිස එකතු වෙලා නිතර සාකච්ඡා කලා. ලිච්ඡවීන් සම්බන්ධයෙන් ගත්තහම, ලිච්ඡවීන්ගේ තිබුනා නිතර නිතර සමගියෙන් රැස් වෙන බව. සමගියෙන් රැස් වී සමගිව සාකච්ඡා කරනා බව. සමගිව සාකච්ඡා කොට සමගිව විසිර යන බව. මේ නිසා නිතර රැස් වෙනවා. ඔය රැස්වීම් වලට එකතු වුනාම බොහෝම ප්‍රසිද්ධ ප්‍රසිද්ධ නමගියපු ලිච්ඡවී පිරිස එකට එකතු වෙලා නොයෙක් ආකාරයෙන් බුදුරජුන්ගේ ගුණ කියන්නේය. ධර්මයේ ගුණ කියන්නේය. සඟරුවනේ ගුණ කියන්නේය. බලන්න ඒ කාලෙ වෙනස. අමාත්‍යවරු රැස්වීම් ශාලා වල කතා කලේ බුදු ගුණ, දහම් ගුණ, සඟ ගුණ. මේ සිදුවීම වෙනකොට සීහ සේනාපතී කියලා කියන්නෙ නිගණ්ඨ ශ්‍රාවකයෙක්. නිගණ්ඨනාතපුත්තගේ ශ්‍රාවකයෙක්. නිගණ්ඨනාතපුත්තට පැහැදිලා හිටපු කෙනෙක්. මේ නිගණ්ඨ ශ්‍රාවක සීහ සේනාධිපතිට අනික් අය බුදුගුණ කතා වෙන හැටි, ධර්මයේ ගුණ කතාවෙන හැටි, සඟරුවනේ ගුණ කතාවෙන හැටි අහන්න ලැබෙනවා. අහද්දි අහද්දි මෙයාට හිතුනා නිසැක වශයෙන්ම මේ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුද්ධ කියන මේ භවත් ගෞතමයන් වහන්සේ ඒකාන්තයෙන්ම රහතන් වහන්සේ නමක් වගේ. ඒකාන්තයෙන්ම සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් වගේ. මොකද මේ ප්‍රසිද්ධ ප්‍රසිද්ධ ලිච්ඡවි වරුනෙ. ඒ බුදුරජාණන් වහන්සේට, ධර්මයට, සඟරුවනට මේ පැහැදිලා ඉන්නෙ. මාත් කොයිකටත් බුදුරජාණන් වහන්සේව බැහැදකින්න ගියා නම් හොඳයි. ඔන්න හිතුනා. සිතුවිල්ල උපන්නාට පස්සෙ සීහ සේනාපති කල්පනා කලා, මගේ ස්වාමියා එහෙම නැත්නම් මම සරණ කරගත්තු ශාස්තෘවරයා නිගණ්ඨනාතපුත්තනෙ. නිගණ්ඨනාතපුත්තට ඔය කාරණය නොකියා යන එක හරි නෑ. නිගණ්ඨනාතපුත්ත ළඟට ගිහිල්ලා කියනවා ස්වාමීනී, මාත් කල්පනා කලා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ළඟට ගිහිල්ලා පොඩ්ඩක් කතා බහ කරලා සුහදව හමුවෙලා එන්න. එතකොට නිගණ්ඨනාතපුත්ත කියනවා මොනවා, සීහයෙනි, ඔබ වනාහි ක්‍රියාවාදී කෙනෙක් නොවැ. ක්‍රියාවාදී කියලා කිව්වෙ වෙහෙසිලා මහන්සි වෙලා කටයුතු කිරීම ගැන වර්ණනා කරන කෙනෙක්. වීර්යය උත්සාහය කියන එක වර්ණනා

කරන කෙනෙක්. ඇයි සෙන්පතිවරුනෙ. සෙන්පතිවරු කිව්වහම ඒ සෙන්පතිවරු කියලා කියන්නේ රාජ්‍යයේ පැවැත්ම වෙනුවෙන් යමක් උත්සාහයෙන් කැපවීමෙන් කරන අයනෙ. ඉතින් නිගණ්ඨනාතපුත්ත මේ ඇයන්ව තියාගෙන ඉඳලා තියෙන්නෙ ඒ අයගේ මුහුණට මෙහෙම වර්ණනාවල් කර කර. නිගණ්ඨනාතපුත්ත කියනවා ඔබ ක්‍රියාවාදී කෙනෙක් නොවැ. ඔබ හරියට මහන්සි වෙලා කැපවෙලා වැඩ කරන කෙනෙක් නොවැ. අක්‍රියවාදී ශ්‍රමණ ගෞතමයන් දැකීමට එළඹෙනවා කියලා කියන්නෙ ඔබට ගැලපෙන්නෙ නැති එකක්නෙ. අක්‍රියවාදී කියලා කියන්නෙ ක්‍රියා නොකර ඉඳීම වර්ණනා කරන. ඔහොම බොරුවක් කියලා දීලා තිබ්බා. නිගණ්ඨනාතපුත්ත සීහ සේනාධිපතිට මහා පට්ටපල් බොරුවක් කියලා තිබ්බා බුදුරජාණන් වහන්සේ කටයුතු කිරීම, වීර්යය කිරීම වර්ණනා කරන කෙනෙක් නෙවෙයි. කැපවීම වර්ණනා කරන කෙනෙක් නෙවෙයි. ඒ නිසා උන්වහන්සේ ළඟට ගියා කියලා ඇති වැඩක් නෑ, සීහයෙනි ශ්‍රමණ ගෞතමයො අක්‍රියවාදී කෙනෙක්. ක්‍රියාවන් නොකිරීම පිණිස දහම් දෙසන කෙනෙක්. ශ්‍රාවකයො හික්මවන්නෙත් ඒ විදියට. ඉතින් එහෙව් කෙනෙක් ගාවට ඔබ මොකට යනවාද, ඔන්න අසත්පුරුෂයාගේ ආශ්‍රය නිසා සත්පුරුෂයෙක් ඇසුරු කරන්න තියෙන අවකාශය සීහ සේනාපතිට වැහුනා. සීහ සේනාපතිගේ අදහස වෙනස් වුනා. ආයෙ වතාවක් රැස්වීම් ශාලාවේ ඉද්දි සීහ සේනාපතිට අහන්න ලැබෙනවා, එකතු වෙච්චි පිරිස බුදුගුණ කතාවෙන හැටි, දහම් ගුණ කතාවෙන හැටි, සඟ ගුණ කතාවෙන හැටි. ආයෙමත් හිතක් උපන්නා. මේ අය මේ කතාවෙන විදියට නම් බුදුරජාණන් වහන්සේ කියලා කියන්නෙ බැහැදකින්නටම ඕන කෙනෙක්. මං කොයිකටත් නිගණ්ඨනාතපුත්තගෙන් අහලාම බුදුරජාණන් වහන්සේ දකින්න යන්න ඕන. ආයෙත් ගියා නිගණ්ඨයා ළඟට. නිගණ්ඨයා ආයෙත් විෂ දැම්මා ඔළුවට. ආයෙමත් අහිමි වුනා. ආයෙමත් අහිමි වුනා බුදුරජාණන් වහන්සේ බැහැදකින්න යන අවස්ථාව. ඉතින් ඒ දෙවෙනි වතාව. තුන්වෙනි වතාවෙත් සීහ සෙන්පති තුමා රැස්වීම් ශාලාවේ ඉන්නකොට අහන්න ලැබෙනවා අනික් පිරිස බුදු ගුණ දහම් ගුණ සඟ ගුණ කතාවෙන හැටි. මේ වතාවෙත් සීහ සේනාපති තුමා මෙහෙම හිතුවා. මේ ප්‍රසිද්ධ ප්‍රසිද්ධ ලිච්ඡවී වරු තමයි බුදු ගුණ, දහම් ගුණ, සඟ ගුණ මෙච්චර කතා කරන්නෙ. මේ ගොල්ලො මේ ක්‍රියා නොකරන අය නෙවෙයි, කැපවෙලා වැඩ කරන අය. රාජ්‍යයේ පැවැත්මට ගොඩාක් මහන්සි වෙන අය. එබඳු අයත් බුදුරජුන්ට පැහැදිලා. ධර්මයට පැහැදිලා, සඟරුවනට පැහැදිලා. එකත් එකටම මේ ශ්‍රමණ භවත් ගෞතම කියලා කියන්නෙ සම්මා

සම්බුදුරජාණන් වහන්සේ නමක් වගේ. මාත් මේ රාජධානියේ සම්භාවනීය කෙනෙක් නිසා මමත් ඒ උත්තමයන් වහන්සේව මුණගැහුනා නම් හොඳයි. හැබැයි මං මේ නිගණ්ඨයා ළඟට ගියොත් නිගණ්ඨයා මේක නවත්වනවාමයි. ඉතින් මං මේ නිගණ්ඨයාගෙන් අහන්නෙ නැතිව ගියා කියලා නිගණ්ඨයා මට මොනවා කරන්නද, බලන්න හිතපු හැටි. මා කියා ගියත් නොකියා ගියත් නිගණ්ඨයො මට කුමක් කරන්නද. ඒ නිසා මං නිගණ්ඨයාට නොකියාම භාග්‍යවත් බුදුරජාණන් වහන්සේව බැහැදකින්න යන්න ඕන. ඔන්න සත්පුරුෂයාගේ ඇසුරට දොර ඇරුණා. සීහ සෙන්පති තුමා තමන්ගේ පිරිවරත් එක්කම ඒ භාග්‍යවත් වූ අර්හත් වූ ගෞතම නම් වූ අපගේ සම්මා සම්බුදුරජාණන් වහන්සේව අපේ ශාස්තෘන් වහන්සේව බැහැදකින්න විශාලාවේ කූටාගාර ශාලාවට යනවා. ඒ ගිහිල්ලා භාග්‍යවතුන් වහන්සේ ඉදිරියේ මෙන්න මෙහෙම කිව්වා, මේ ප්‍රකාශය හොඳට මතක තියාගන්න ඕන එකක් අපි. බලන්න සීහ සෙන්පති බුදුරජාණන් වහන්සේට කිව්ව හැටි. ස්වාමීනී, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අක්‍රියවාදියෙකි. ක්‍රියාවන් නොකිරීම පිණිස දහම් දෙසන කෙනෙකි. එසේ ශ්‍රාවකයෝ හික්මවන කෙනෙකි කියලයි මට අහන්න ලැබුනේ. ස්වාමීනී යමෙක් මට මෙහෙම කිව්වා නම් මේ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අකිරියවාදී කෙනෙක් කියලා, ස්වාමීනී ඒක ඔබවහන්සේ වදාළ කාරණාවක්ද? ඒක සත්‍යයක් ද? මට පිටින් අහන්න ලැබුනේ එහෙම. හැබැයි මම කැමැති නෑ ස්වාමීනී අභූත චෝදනා කරන්න. ඒ නිසා මං දැනගන්න කැමැතියි මට ඒ දැනගන්න ලැබිච්චි දේ සත්‍යයක්ද, අසත්‍යයක්ද, සිද්ධ වෙච්චි දෙයක්ද, අභූතයක් ද? බලන්න වැදගත්කම. වැදගත්, සීහ සේනාධිපති. නිකං අහන්න ලැබිච්ච එකක් මුල් කරගෙන විශ්වාසවන්ත කෙනෙක් තමන්ගේ කණට කොඳුරලා කිව්වා කියලා ඒක පිළි අරගෙන තවත් උතුම් කෙනෙකුට අභූත චෝදනා කරන්න කැමැති වුන් නෑ සීහ සෙන්පති, වැදගත් නිසා. අද සමාජය දිහා බලපුවාම අපිට පේනවා, හරියට ඉන්නෙ නොවැදගත් ඇයො. ගුණවතුන්ට නිග්‍රහ කරනවා, අපහාස කරනවා, නින්දා කරනවා, අභූත චෝදනා කරනවා ඔහේ. වැදගත් කමක් නෑ. සීහ සෙන්පතිට තිබුනා වැදගත්කම. ඒ නිසා බුදුරජාණන් වහන්සේගෙන් කෙලින්ම ඇහුවා. එතකොට භාග්‍යවතුන් වහන්සේ සීහ සේනාපති අරඹයා බොහෝම ලස්සන ධර්මයක් වදාළා. බුදුරජාණන් වහන්සේ දේශනා කලා සීහයෙනි යම් ක්‍රමයකින් බුදුරජාණන් වහන්සේ ගැන කියන්නත් පුලුවන් අකිරියවාදී කියලා. බුදුරජාණන් වහන්සේට කියන්න පුලුවන් අකිරියවාදී කියලා එක ක්‍රමයකට. එසේ කිව හැකි

ක්‍රමය කුමක්ද? සීහයෙනි, මම වනාහි නොකිරීමක් ගැන කියමි. මං කරන්න එපා කියලා කියන දේවල් තියෙනවා. මොනවාද? කායික දුෂ්චරිතය නොකළ යුත්තේය කියා මම දේශනා කරමි. බුදුරජාණන් වහන්සේ වදාරනවා, සීහයෙනි මං කියනවා කාය දුෂ්චරිතය කරන්න එපා. වචනයෙන් දුෂ්චරිතය කරන්න එපා. මනසින් දුෂ්චරිතය කරන්න එපා කියලා මං බණ කියනවා. ඒ නිසා ඒ ක්‍රමයට හිතලා නම් කෙනෙකුට කිව්වට වැරැද්දක් නෑ, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ කරන්න එපා කියලා කියන කෙනෙක්. හැබැයි මොනවාද කරන්න එපා කියලා කියන්නෙ, කයින් අකුසල් කරන්න එපා. ප්‍රාණඝාතය, සොරකම, සල්ලාලකම කරන්න එපා කියලා වදාරනවා. ඒවා තමිය කරන්න එපා කිව්වෙ. වචනයෙන් වෙන අකුසල් බොරු කීම, කේලාම් කීම, හිස් වචන කීම, පරුෂ වචන කීම නොකළ යුත්තේය කියලා වදාරනවා. ඒවා තමයි කරන්න එපා කිව්වෙ. ඒ ක්‍රමයට නම් අකිරියවාදී කියලා කිව්වට කමක් නෑ. මනසින් වෙන අකුසල්, මනෝ දුෂ්චරිත, අන් අයගේ දේට ලෝභ කිරීම නොකළ යුත්තේය. අධික ද්වේෂය, අධික පටිගය නොකළ යුත්තේය. මිත්‍යා දෘෂ්ටි වල සමාදන් වීම නොකළ යුත්තේය. අන්න ඒ ක්‍රමයට නම් අකිරියවාදී කියලා කියන්නත් පුලුවන්. සීහයෙනි යම් ක්‍රමයකින් බුදුරජාණන් වහන්සේට මෙහෙම කියන්නත් පුලුවන්. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ක්‍රියාවාදීයි. ක්‍රියාව වර්ණනා කරන කෙනෙක් කියලා කියන්න පුලුවන්. කෙහොමද ඒ ක්‍රියාවාදී කියලා කියන්න පුලුවන් වෙන්නෙ? සීහයෙනි තථාගතයන් වහන්සේ කිරීමක් ගැන කියනු ලබයි. එනම් කාය සුචරිතයයි, වචී සුචරිතයයි, මනෝ සුචරිතයයි. තථාගතයන් වහන්සේ කාය, වාග්, මනෝ සුචරිතය කිරීම වර්ණනා කරන්නේය. කය මුල් කරගෙන යහපත කළ යුත්තේය. වචන මුල් කරගෙන යහපත කළ යුත්තේය. සිත මුල් කරගෙන යහපත කළ යුත්තේය කියලා කිරීම වර්ණනා කරනවා. ඒ නිසා ඒ ක්‍රමයට ක්‍රියාවාදී කියලා කියන්නත් පුලුවන්. ඊළඟට සීහයෙනි, මේ භාග්‍යවතුන් වහන්සේ ගැන, ශාස්තෘන් වහන්සේ ගැන මෙහෙම කියන්නත් පුලුවන්. උච්ඡේදවාදී - උච්ඡේද කියලා කියන්නෙ විනාශය පිණිස, විනාශ වීම පිණිස කරුණු කියන කෙනෙක්. ඒ විනාශය පිණිස දහම් දෙසනවා කියලා කියන්න පුලුවන් කරුණ කුමක්ද, සීහයෙනි, තථාගතයන් වහන්සේ රාගයේත්, ද්වේෂයේත්, මෝහයේත් නොයෙක් පාපී අකුසල් දහම් වලත් විනාශය ගැන කියනු ලබයි. බුදුරජාණන් වහන්සේ විනාශයක් ගැන දේශනා කරනවා. මොනවා විනාශ වීමද? රාගය විනාශ වීම, ද්වේෂය විනාශ වීම, මෝහය විනාශ වීම. පාපී අකුසල් විනාශ වීම. ඒ ක්‍රමයට කෙනෙකුට

කියන්න පුලුවන් බුදුරජාණන් වහන්සේ බණ කියන්නෙ විනාශය පිණිස. බලන්න ලස්සන මේ ශාසනයේ. අපේ ශාස්තෘන් වහන්සේට කියන්න පුලුවන් කෙනෙකුට හොඳට ගුණ සිහි කර කර. අපේ බුදුරජාණන් වහන්සේ නොකිරීමක් ගැන දේශනා කරන කෙනෙක්. සිත, කය, වචනයෙන් දුෂ්චරිතය කරන්න එපා කියලායි වදාරන්නෙ. අපේ බුදුරජාණන් වහන්සේ කරන්න කියලා වර්ණනා කරන කෙනෙක්. සිත, කය, වචනයෙන් සුචරිතය කරන්න කියලායි වර්ණනා කරන්නෙ. අපේ බුදුරජාණන් වහන්සේ විනාශ කරපල්ලා කියලා කියන කෙනෙක්. ඒ මොනවා විනාශ කරන්න කියලාද? රාග, ද්වේෂ, මෝහ පාපී අකුසල් විනාශ කරන්න කියලයි බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ. සීහයෙනි, තවත් ක්‍රමයකට මෙහෙමත් කියන්න පුලුවන්. ශ්‍රමණ භවත් ගෞතම තෙමේ දේගුච්ඡී කෙනෙකේ. දේගුච්ඡී කියලා කියන්නෙ පිළිකුල් කරන කෙනෙක්. පිළිකුල ගැන දේශනා කරන කෙනෙක්. පිළිකුල් කිරීමක් ගැන බණ කියන කෙනෙක්. සීහයෙනි මොනවාද පිළිකුල් කළයුත්තේ, කාය දුෂ්චරිතය පිළිකුල් කළ යුත්තේය. වචී දුෂ්චරිතය පිළිකුල් කළ යුත්තේය. මනෝ දුෂ්චරිතය පිළිකුල් කල යුත්තේය කියලා බුදුරජුන් දහම් දෙසයි. පිළිකුල් කළ යුත්තේ දුෂ්චරිතය, ලාමක දේවල්. අන්න ඒවා පිළිකුල් කරන්න කියලායි භාග්‍යවතුන් වහන්සේ දහම් දෙසන්නෙ. ඔන්න හිත පහදවගත්තහැකි අපට අපේ බුදුරජාණන් වහන්සේ පිළිකුල් කිරීමක් ගැන කියනවා. ඒ පිළිකුල් කල යුත්තේ දුෂ්චරිතයයි. දුෂ්චරිතයයි පිළිකුල් කළ යුත්තේ. සීහයෙනි තවත් ක්‍රමයකට බුදුරජාණන් වහන්සේ ගැන මෙහෙමත් කිව්වහැකි. ශ්‍රමණ ගෞතම තෙමේ වේනයිකයෙක්. වේනයික කියලා කිව්වෙ නැසීම පිණිස දහම් දෙසනවා. නැසීමක් ගැන කියනවා. ඒ මොනවා නැසීමක් ගැනද? රාගය නැසීම ගැනය, ද්වේෂය නැසීම ගැනය, මෝහය නැසීම ගැනය. නොයෙක් පාපී අකුසලයන්ගේ නැසීම ගැනය. ඒ ක්‍රමයට බුදුරජාණන් වහන්සේ ගැන කියන්න පුලුවන්. බුදුරජාණන් වහන්සේගේ බණ නම් නැසීම පිණිස දේශනා කරන එකක්. එහෙම කියන්නත් පුලුවන්. සීහයෙනි තව ක්‍රමයකට මෙහෙමත් කියන්න පුලුවන්, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ තපස්වී කෙනෙක්. තපස්වී කියන එකේ අදහස පින්වතුනි, තවනවා කියන අදහස. තවනවා කියන්නෙ නිකං පෙලනවා වගේ එකක්. තවනවා පෙලනවා කියන අදහස බුදුරජාණන් වහන්සේ උදෙසා කියන්න පුලුවන්. ඒ කොහොමද සීහයෙනි තැවීම, පෙළීම කියන අදහස භාග්‍යවතුන් වහන්සේට කිව හැක්කේ? සීහයෙනි බුදුවරු දහම් දෙසන්නේ කයින් වෙන වැරදි, වචනයෙන් වෙන වැරදි මනසින් වෙන වැරදි ඒ වගේම තවත්

පාපී අකුසල් ඇත්නම් ඒවා තැවීම ගැනයි. ඒ අකුසල් බලවත් වීර්යයෙන්, ඉතා බලවත් වීර්යයෙන් දුරු කරන්න ඕන කියලයි බුදුවරු දහම් දෙසන්නෙ. අකුසලය තුළ පවතින්න දහම් දෙසන් නෑ. වීර්යයක් වඩලා අකුසල් දුරු කරන්නයි බුදුරජාණන් වහන්සේලා බණදහම් කියාදෙන්නෙ. අන්න ඒ නිසා බුදුරජුන්ගේ ධර්ම දේශනාවට කෙනෙකුට කියන්න පුලුවන් කියනවා භාග්‍යවතුන් වහන්සේ නම් තපස්වී කෙනෙක්. තැවීම ගැනයි කියන්නෙ. සීහයෙනි තවත් ක්‍රමයකට බුදුරදුන්ට මෙසේද කිව හැක්කේය. අප්පගබ්භො භවං ගොතමො, භාග්‍යවතුන් වහන්සේ කියලා කියන්නෙ ගැබෙන් බැහැර වීම පිණිස දහම් දෙසනා කෙනෙක්. සීහයෙනි, එහෙම කියන්නත් පුලුවන්. ඒ කොහොමද, තථාගත බුදුරජාණන් වහන්සේ යමෙකුට නැවත මව්කුසක නිදන පුනර්භවයක උපතක් ඇත්ද, එය ප්‍රහාණය වීම ගැන දහම් දෙසනා සේක. බුදුරජාණන් වහන්සේ දහම් දෙසන්නේ යළි නූපදීම පිණිස. යළි උපන්නොත් මේ සසර ගමනේ යළි යළිත් දුකමයි. ඒ නිසා දුකින් නිදහස් වීමක් ගැන බුදුරජුන් දහම් දෙසනවා. ඒ අර්ථයෙන් කෙනෙකුට බුදුරජාණන් වහන්සේ ගැන කියන්න පුලුවන් කියනවා, මේ භාග්‍යවතුන් වහන්සේ නම් ගැබෙන් බැහැර වීම පිණිස දහම් දෙසන කෙනෙක්. ඊළඟට සීහයෙනි, තවත් ක්‍රමයකට මා ගැන කියන්න පුලුවන් කෙනෙකුට. ශ්‍රමණ ගෞතමයන් වහන්සේ අස්වැසීම පිණිස බණ කියන කෙනෙක්. අස්වැසිල්ල උපද්දනවා උන්වහන්සේ බණ කීමෙන්. ඒ කොහොමද කියන්නෙ? සීහයෙනි මම වනාහි පරම අස්වැසිල්ලෙන් අස්වැසී සිටිමි. පරම අස්වැසිල්ල කියලා කිව්වෙ නිවන. නිවනට වඩා සැනසිල්ලක් මේ ලෝකෙ තවත් කොහෙද. සියලු කෙලෙස් සංසිඳී ගිය පරම අස්වැසිල්ල වන නිවනේ සංසිඳී බුදුරජාණන් වහන්සේ අස්වැසීම පිණිසම දහම් දෙසනා සේක. ඒ නිසා කෙනෙකුට බුදුරජාණන් වහන්සේ ගැන කියන්න පුලුවන්, අස්වැසීම පිණිසත් බණ කියන කෙනෙක් කියලා. දැන් මේ අන්‍යාගමික සීහ සේනාපතී කියන නිගණ්ඨ ශ්‍රාවකයාටයි බුදුරජාණන් වහන්සේ මෙහෙම කියාදුන්නෙ. බුදුරජාණන් වහන්සේ වදාළා සීහයෙනි, කෙනෙකුට නුවණින් සළකලා කරුණු කාරණා පහදාගෙන නම් එක එක නම් වලින් බුදුරජාණන් වහන්සේව හඳුන්වන්න පුලුවන්. ක්‍රියාවාදී කියලා කියන්නත් පුලුවන්. අක්‍රියවාදී කියලා කියන්නත් පුලුවන්. විනාශය පිණිස බණ කියන කෙනෙක් කියලා කියන්නත් පුලුවන්. පිළිකුල පිණිස බණ කියන කෙනෙක් කියලා කියන්නත් පුලුවන්. දැන් අද කාලෙත් බුදුරජාණන් වහන්සේගේ ධර්මය ගැන එක එක කයි කතන්දර කියන්නෙ. අර්ථ සලකලා කියන ඒවා නෙවෙයි. දෝෂාරෝපණය පිණිස කියන ඒවා. ගැරහීම පිණිස කියන

ඒවා. හැබැයි ශ්‍රාවකයෙකුට නුවණින් සළකලා බුදුරජාණන් වහන්සේ ගැන ඕන නම් එහෙමත් සිහි කලහැකි. ඉතින් ඔහොම කරුණු අටකින් බුදුරජාණන් වහන්සේ සීහ සේනාපතිට ධර්මය දේශනා කලා. ඒ දහම් දේශනාව අහගෙන ඉද්දි සීහ සේනාපතිගේ හිත බලවත්ව පැහැදුනා. සීශ සේනාපති කියනවා අච්චරියං භන්තෙ. දැන් බලන්න මුලින් කතා කලේ භවත් ගෞතම කියලා. දැන් පැහැදුනා. දැන් සීහ සේනාපති කියනවා, අච්චරියං භන්තෙ - ස්වාමීනී ආශ්චර්‍ය්‍යයි. අද්භූතං භන්තෙ - ස්වාමීනී හරීම අද්භූතයි, මනහරයි. ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේ නොයෙක් ආකාරයෙන් සද්ධර්මය දේශනා කලා, මට හැඟෙන්නෙ වහලා තිබ්බ දෙයක් ඇරලා පෙන්නුවා වගේ, යට පැත්තට හැරවිලා තිබ්බ එකක් උඩු අතට හරවලා හරි පැත්තට පෙන්නුවා වගේ, මං මුලා වෙලා හිටපු කෙනෙකුට හරි පාර පෙන්නුවා වගේ, ඇස් දෙකකුත් තියාගෙන අන්ධකාරයේ කළුවරේ ඉන්න අයට මේ ලෝකය බලාපල්ලා කියලා පහන් ආලෝකය දැල්වූවා වගේ. ස්වාමීනී අද පටන් මමත් බුදුරජාණන් වහන්සේවම සරණ යන්නෙමි. ධර්මය සරණ යන්නෙමි. ශ්‍රාවක සඟරුවන සරණ යන්නෙමි. අද පටන් දිවි ඇතිතෙක්ම තෙරුවන් සරණ ගිය උපාසකයෙකු ලෙස මාව පිළිගන්නා සේක්වා. එහෙම ඉල්ලුවා. බුදුරජාණන් වහන්සේ වදාළා සීහයෙනි, හොඳින් හිතාබලා කටයුතු කරන්න. ඔබ වැනි ප්‍රසිද්ධ මනුස්සයෙක් හට හොඳින් හිතාබලා කටයුතු කිරීමයි යහපත් වෙන්නෙ. ඇයි සීහ සේනාපති කියලා කියන්නෙ මහා ප්‍රසිද්ධ චරිතයක් විශාලාවේ. හැමෝම දන්නෙ නිගණ්ඨනාතපුත්තගේ ශ්‍රාවකයෙක්, එහෙම දන්නෙ. දැන් ඒ සීහ සෙන්පතිතුමා එක බණ කතාවකින්ම, නිගණ්ඨයාව අත්හැරලා තෙරුවන් සරණ යන්න ලෑස්තිය. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා සීහයෙනි, ඔබ ප්‍රසිද්ධ චරිතයක්, ඔබ හිතලා බලලා කටයුතු කරන්න ඕන. එතකොට සීහ සෙන්පති කියනවා, ස්වාමීනී මං මේ කරුණෙනුත් භාග්‍යවතුන් වහන්සේ කෙරෙහි බොහෝ සෙයින් පැහැදුනු සිත් ඇත්තෙමි. සතුටු සිත් ඇත්තෙමි, ඇලුනු සිත් ඇත්තෙමි. භාග්‍යවතුන් වහන්සේ මට දැන් මෙහෙමත් කියනවා නෙවැ, සීහයෙනි හොඳට හිතලා බලලා කටයුතු කරන්න කියලා. ස්වාමීනී අන්‍ය තීර්ථකයෙක් ළඟට මං ගිහිල්ලා කිව්වා නම් මම නිගණ්ඨනාතපුත්තව අත්හැරලා ඔබවහන්සේ සරණ යනවා කියලා වෙන තීර්ථකයෙකුට මම කිව්වා නම් - ඒ කාලෙ හිටියානෙ ෂඩ්ශාස්තෘවරු. වෙන කෙනෙක් ගාවට ගිහිල්ලා මම ඔය කතාව කිව්වා නම් ස්වාමීනී මුළු විශාලා මහනුවරම සීහ සේනාපති අපගේ ශ්‍රාවක බවට පැමිණියේය කියලා කොඩි උස්සනවා. අනික් කෙනෙක් නම් ඔන්න

සීහ සේනාපතියත් අපිට පැහැදුනා කියලා කොඩි උස්සලා විශාලාවේ හැමතැනම කොඩි ප්‍රදර්ශනය කරයි කිව්වා. හැබැයි භාග්‍යවතුන් වහන්සේ මෙහෙම සරණ යන්න සූදානම් වෙන මටත් කියනවා, සීහයෙනි ඔබ වගේ ප්‍රසිද්ධ කෙනෙක් ඔයිට වඩා හිතා බලා කටයුතු කළයුත්තේය කියලා ස්වාමීනී මං ගැන දරාගන්න, අද පටන් දිවිහිමියෙන් මං තෙරුවන් සරණමයි යන්නෙ. බුදුරජාණන් වහන්සේ එතකොට වදාළා, සීහයෙනි ඔබේ නිවස බොහෝ කාලයක් නිගණ්ඨයන් හට හරියට පැන් පොකුණක් වගේ තිබ්බ තැනක්. ඔබ නිගණ්ඨයන්ට බොහෝ දන් දුන්නා. ඒ නිසා සීහයෙනි ඔවුන් පැමිණි කල්හි දානය දිය යුතු යැයි සිතිය යුත්තේය. සිත් පහදවා ගන්න ඕන පින්වතුනි අපි අපේ ශාස්තෘන් වහන්සේ ගැන. බුදුරජාණන් වහන්සේ කොච්චර කාරුණික ද. භාග්‍යවතුන් වහන්සේ අර නිගණ්ඨයන්ගේ ලාභයට අනතුරු වෙනවාට කැමැති වුන් නෑ. බුදුරජාණන් වහන්සේ සීහ සෙන්පතිට කියනවා, සීහයෙනි දැන් දන්න කියන කාලෙ ඉඳලා නිගණ්ඨයො ඔබේ නිවසේ නිතර දානයට එනවා. නිගණ්ඨයන්ට පැන් පොකුණක් වගේ ඔබේ නිවස. සීහයෙනි වළක්වන්න එපා, ඒ දානය දිගටම දිය යුතුය කියා සිතන්නට ඕන. එතකොට සීහ සෙන්පතියා ආයෙ සතුටුවුනා ස්වාමීනී, ඔබ වහන්සේ පවසන පවසන කරුණින් මගේ හිත ඔබවහන්සේටම ඇලී යනවා. මගේ හිත ඔබවහන්සේ කෙරෙහිම පහදිනවා. ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේ දැන් මා හට පැවසූ කරුණ. මා අහලා තිබුනේ වෙනත් විදියකටනෙ. එනම් භාග්‍යවතුන් වහන්සේ දේශනා කරන්නෙ මෙහෙමලු, මටම දන්දිය යුත්තේය. අන්‍යයන්ට දන් නොදිය යුත්තේය. මගේ ශ්‍රාවකයන්ටම දිය යුත්තේය. අන්‍යයන් හට නොදිය යුත්තේය. මෙහෙම කතාවක්නෙ ස්වාමීනී අපි අහලා තිබුනෙ. හැබැයි භාග්‍යවතුන් වහන්සේම මට දැන් දේශනා කරනවා, සීහයෙනි ඔබ දැන් මා කෙරෙහි පැහැදුනාට කමක් නෑ, නිගණ්ඨයන්ට දෙන දානය නම් නවත්වන්න එපා. ඒක ඔවුන් හට දිගටම ඔබ දෙන්න. ස්වාමීනී මං තෙවැනි වතාවටත් භාග්‍යවතුන් වහන්සේවම සරණ යමි. මේ තෙවැනි වතාවේත් භාග්‍යවතුන් වහන්සේ මා ගැන තෙරුවන් සරණේ පිහිටි, දිවි හිමියෙන් තෙරුවන් සරණේ පිහිටි ශ්‍රාවකයෙක් විදියට දරාගන්න සේක්වා කියලා ඔන්න සරණ ගියා. ඒ සරණ ගියාට පස්සෙ භාග්‍යවතුන් වහන්සේ ඉතා බලවත්ව පැහැදී සිටින සීහ සේනාපතිට අනුපිළිවෙල කතාව වදාළා. දාන කතා, සීල කතා, සග්ග කතා, කාමානං ආදීනවානං, ඕකාරානං සංකිලේසානං, කාමයන්ගේ ආදීනව ගැන, කෙලෙස් නිසා සත්ත්වයෝ අපිරිසිදු වෙන විදිය ගැන ඊළඟට නෙක්ඛම්මයේ ආනිසංසං, මේ ඔක්කොම

කාමයන්ගෙන් වෙන්වීමේ අනුහස් ගැන බුදුරජාණන් වහන්සේ බණ වදාළා. ඒ ධර්ම දේශනාව අවසන් වෙනකොට මේ අනුපිළිවෙල කතාව කියලා කියන්නෙ පින්වතුනි, බුදු කෙනෙක් මහා පින් තියෙන අය උදෙසාම කරන එකක්. අනුපිළිවෙල කතාව කරනකොට සීහ සේනාපතිගේ හිත තැන්පත් වුනා. නීවරණයන්ගෙන් බැහැර වුනා. අවබෝධයට සුදුසු ආකාරයට සකස් වුනා. බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ සීහ සේනාපතිතුමාට චතුරාර්ය සත්‍යය ධර්මය දේශනා කලා. ඒ චතුරාර්ය සත්‍යය දේශනාව අවසන් වෙනකොට සීහ සේනාපති තුමා සෝතාපන්න ආර්ය ශ්‍රාවකයෙක් බවට පත්වුනා. ඉතින් ඔන්න ඔහොම තමයි සීහ සෙන්පති තෙරුවන් සරණ ගියේ, මේ සීහ සේනාපති සම්බන්ධයෙන් සූත්‍ර දේශනා ගණනාවක් තියෙනවා පින්වතුනි, ඔබට උතුම් සූත්‍ර පිටකය අධ්‍යයනය කලොත් ඒ දේශනා ඉගෙන ගන්න පුලුවන්. අපි අද ඔබට මේ කියාදුන්නෙ සීහ සේනාපති බුද්ධ ශාසනයට පැහැදුනු හැටි. ඒ සීහ සේනාපති කියන මහා සම්භාවනීය චරිතය බුදු සසුනට පැහැදුනාට පස්සේ ඔය විසාලාවේ බොහෝ පිරිසක් බුද්ධ ශාසනයට පැහැදුනා. විශේෂයෙන් සීහ සේනාපතිගේ පවුල් සංස්ථාව, පවුලේ පිරිස අර අන්‍ය ඇදහීම් ඔක්කෝම අත්හැරලා බුදුරජාණන් වහන්සේව සරණ ගියා, ධර්මය සරණ ගියා, සඟරුවන සරණ ගියා. ඔය සීහ සේනාපතිට හිටියා තමන්ගේම සහෝදරියක්. ඒ සහෝදරිය ධනවත් කුලයකට විවාහ කරලා දුන්නා. ඒ සහෝදරියට විවාහය නිසා තමන්ගේම කුසින් දියණියක් උපන්නා. ඒ දියණිය පශ්චිමභවික තැනැත්තියක්. මහා පින් තිබ්බ තැනැත්තියක්. ඇයට නම දැම්මේ සීහා. සීහාව තරුණ වයසට එනකොටම සීහාට දකින්න ලැබෙන්නෙ සීහාවට තේරෙන වයසට එනකොටම ඇට දකින්න ලැබෙන්නෙ තමන්ගේ පවුල් සංස්ථාවේ පිරිස බුදුරජාණන් වහන්සේට දානෙ පූජා කරනවා. ශ්‍රාවක සඟරුවනට දානෙ පූජා කරනවා. නිවසේ විශේෂ දෙයක් තිබුනොත් එහෙම බුද්ධ ප්‍රමුඛ මහා සංඝරත්නය වඩම්මලා දන් පැන් පූජා කරනවා. බණ අහනවා, මේ දේවල්මයි දකින්න ලැබෙන්නෙ. පෝයට සිල් අරගන්නවා. ඇ සුදුසු තැනකම උපන්නා. ඒ නිසා පුංචි කාලෙ ඉඳලාම තෙරුවන් සරණ මුල් කරගත්තු පසුබිමක් ඇට නිර්මාණය වුනා. මේ සීහාව සාමාන්‍යයෙන් අවුරුදු 16 වගේ තරුණ වයසට එනකොට නිතර නිතර භික්ෂුණීන් වහන්සේලාව ඇසුරු කරනවා. ඔය භික්ෂුණීන් ඇසුරු කරද්දි ඇයට මේ ධර්මය කෙරෙහි බලවත්ව හිත පැහැදුනා. දෙමව්පියන්ගෙන් අවසර අරගෙන තරුණ වයසෙදිම මේ සීහා ගිහි ජීවිතය අත්හැරලා බුද්ධ ශාසනයේ භික්ෂුණී සංඝයා අතරේ පැවිදි වුනා. පැවිද්දට පත්වුනාට පස්සෙ දැන් ඇ

බලාපොරොත්තු වෙන්න ඇති වේගවත් දියුණුවක්. පැවිද්දට පත්වෙනකොට ඈ බලාපොරොත්තු වෙන්න ඇති වේගවත් දියුණුවක්. නමුත් මේ හිත කියලා කියන්නේ අපිට ඕන ඕන විදියට එහෙම ලේසියෙන් හැසිරෙන කෙනෙක් නෙවෙයි. හිත හරියට දමනය නොවෙච්චි, අසංවර වෙච්චි, හික්මුණේ නැති වඳුරෙක් වගේනෙ. අරමුණක්, අරමුණක් පාසා මෙයා දුවනවා. තරුණ වයසේ ඉන්න සීහා තෙරණියට, එක එක සිතුවිලි. එකක් අවසන් වෙනකොට තව සිතුවිල්ලක්. ඒක අවසන් වෙනකොට තව සිතුවිල්ලක්. ඇයට පාලනය කරගන්න බැරිව ගියා. සමහර වෙලාවට කාම සිතුවිලි, සරාගී සිතුවිලි ආවහම ඒවම හිත හිතා ඉන්නවා. මෙහෙම කාලය ගතවුනා. ඇයට මේක හරි වදයක්. පැවිද්ද කරගෙන යන්න බෑ. බලන්න ඒ තෙරණියගේ ගාථා වල ඒ උත්තමාවිය මෙහෙමයි කියන්නෙ. ඉස්සර මං හිතුවෙ වැරදි විදියටමයි, කාමාශාවෙන් මේ සිත හරියට පීඩා වින්දා. ඉතින් මං හිටියේ හිත දමනය කරගන්නට බැරිව. හිත හරියට විසිරිලා තිබුනා. මං මේ අරමුණ සුභ වශයෙන් පෙළගැස්වූ නිසා තමයි කෙලෙස් පීඩා ඇතිවුනේ. රාග සිතේ වසඟයට ගිය නිසාමයි චිත්ත සමාධියක් ලබාගන්න මට බැරිව ගියේ. මං ඒ දවස්වල හරීම කෙට්ටුයි. දැන් මේ තෙරණින් වහන්සේ පැවිද්දට පත්වෙලා හරියට කුසල් හිතක් නැති නිසා හිතට සැප නෑ. පැවිද්දේ හිත ඇලෙන් නෑ, ඉතින් අර අකැමැත්තෙන් වාසය කරන කොට, අකමැත්තෙන් පැවිද්දෙ හැසිරෙනකොට කෙට්ටු වෙලා ගියා. ඇඟපත විරූපී වෙලා අවලස්සන වෙලා තිබුනෙ. අවුරුදු හතක්ම මං ඒ විදියට දුක් වින්දා. පැවිදි වෙලා අවුරුදු හතක් කිසිම දියුණුවක් ලැබුන් නෑ. කෙලෙස් නිසා දුක් විඳපු මට ගෙවී ගිය රෑ දහවල් කිසි වෙලාවක පැවිදි සැපයක් - පැවිදි සැපය කියලා කිව්වෙ සමාධි සුවයක් - කුසල් හිතක හොඳට හිත එකඟ කරගෙන, වාසය කරන්න පුලුවන් හැකියාවක් ඇයට බැරිව ගියා උපද්දගන්න. අවසානයේ මෙහෙම අවුරුදු හතක් ගතවෙනකොට ඇය ටිකක් තද තීරණයකට එනවා. ඇය කල්පනා කලා මම මේ උතුම් පැවිද්දට පත්වුනේ ගොඩාක් ප්‍රාර්ථනා තියාගෙන. නමුත් මට එක මොහොතක් වත් හිත එකඟ කරගන්න බෑ. මට ගිහිවීමෙන් ඇති ඵලකුත් නෑ. අකුසල් හිත හිතා පැවිද්දෙ ඉඳීමෙන් ඇති පලකුත් නෑ. ඒ නිසා මං සියදිවි හානි කරගන්න ඕන. ඈ එහෙම හිතුවා. එහෙම හිතලා වැල් පොටකුත් අරගෙන කාටත් හොරා ඈ කැලේට යනවා. කැලේට ගිහිල්ලා පින්වතුනි උස ගහකට නැග්ගා. නැගලා ලණුවේ කෙළවරක් අත්තක ගැටගැහුවා. අනිත් කෙළවර අරගෙන තොණ්ඩුවක් හදලා තමන්ගේ බෙල්ලේ ගැටගහගත්තා. දැන් එයා ලැහැස්ති එල්ලිලා මැරෙන්නයි. දැන් මේ එල්ලිලා

මැරෙන්නේ කුමක් උදෙසාද. ලාමක අරමුණක් උදෙසා නම් නෙවෙයි මේ අයියෝ අහවලා මාව දාලා ගියා කියලා එල්ලෙන එකක් නෙවෙයි මේ. මට හරියට ප්‍රශ්න කියලා එල්ලෙන එකක් නෙවෙයි. ඈ කුසල් හිතකින් පැවිද්ද ගත කරන්න කැමැති වුනා. හිත එකඟ වෙන් නෑ, අකුසල් හිත හිතා මේ පැවිද්දේ ඉන්න හිතෙන් නෑ. පැවිද්ද අත්හැරලා ගිහි වෙන්න පුලුවන්කමක් ඇයට නෑ. ඒ නිසා ඇය තීරණයකට ආවා මීට වඩා හොඳයි අකුසල් හිත හිතා ජීවත් වෙනවාට වඩා හොඳයි කුසලයක් තුළ හිත තියාගෙන මම මැරෙනවා. එහෙම හිතුනා. එහෙම හිතෙන්න කොච්චර වෙහෙසක් ඇයට තියෙන්න ඇතිද. බලවත් වෙහෙසක් තිබුනා. ඉතින් දැන් ගහට ගොඩ වෙලා තමන්ගේ බෙල්ලො තොණ්ඩුවකුත් දාගෙන අත්ත උඩ ඉඳගෙන ඈ හිතනවා, දැන් මං කොහොමත් මැරෙන්න යන එකනෙ. මේ මැරෙන මොහොතේ මං හොඳට කුසල් හිතක හිත පවත්වන්න ඕන. නැත්නම් මගේ මරණය ලාමක එකක් වෙයි. එහෙම හිතලා මේ සීහා තෙරණී ගහ මුදුනේ ඉඳන්, ගහේ අත්තේ ඉඳගෙන හිත එකඟ කරන්න මහන්සි ගත්තා. දැන් ඇයට ඕන හොඳට තදබල කුසල් හිතක් ඇතිකරගන්න. මේ කුසල් හිතින් යුක්ත වෙච්චි ගමන් ඈ පනින්නයි සූදානම. නමුත් බලන්න පින්වතුනි ඈ සංසාරේ පින් කරපු කෙනෙක්නෙ. බෙල්ලේ තොණ්ඩුව දාගෙන හිත එකඟ කරන්න මහන්සි ගන්නකොට මේ අවුරුදු හතටම නොලැබූ සුවයක් ඇයට ලැබුනා. ඇගේ හිත පුදුමාකාර විදියට එකඟ වුනා. ඒ වෙලාවේ එකඟ හිතින් ඈ විදර්ශනාව වඩන්න පටන් ගත්තා. ගහේ අත්තේ ඉඳගෙන සියලු කෙලෙස් නසා රහත් තෙරණින් වහන්සේ නමක් බවට පත්වුනා. ඒක මෙහෙමයි, ඒ උත්තමාවිය වදාළේ. අන්තිමේදී මං කඹයක් අරගෙන වනාන්තරේ ඇතුලට ගියා. මේ පහත් ගිහි ජීවිතයට බැස ගන්නවාට වඩා බෙල්ල වැලලාගෙන මැරෙන එක උතුම් කියලා මං හිතුවා. තොණ්ඩුව හොඳට සකස් කරලා ඒ කඹය ගහේ අත්තක බැන්දා. ඒ තොණ්ඩුව මගේ බෙල්ලට දාගත්තා. එතකොට මගේ හිත හැම කෙලෙස් වලින්ම නිදහස් වුනා. තොණ්ඩුව ගෙලේ බැඳගෙන ඈ අර්හත්වයට පත්වුනේ. අර්හත්වයට පත්වුනාට පස්සෙ තොණ්ඩුව බෙල්ලෙන් ඉවත් කරලා ඒ උත්තමාවිය වෘක්ෂයෙන් පහළට වැඩියා. පස්සෙ කාලෙකට ඒ සීහා නම් වූ රහත් තෙරණී, පිරිනිවන් පාන්න සූදානම් වෙනකොට තමයි මේ විස්තරය අනිත් භික්ෂුණීන් වහන්සේලාට දේශනා කලේ. ඉතින් බුද්ධ ශාසනය කියන එක හරී ආශ්චර්‍යයිි පින්වතුනි. එහෙමත් මේ ශාසනය තුළ පින් තිබුනු අය කෙලෙස් නසා සැපයට පත්වුනා. යම් පවුල් සංස්ථාවක එක්කෙනෙක් හරියට තෙරුවන් සරණේ ශක්තිමත්ව පිහිටියොත් කොච්චර යහපතක් සිද්ධ

වෙනවාද කියන කාරණය මේ බණ පදයෙන් අපිට හොඳට තේරෙනවා. සීහා තෙරණියට අමා නිවනේ සැනසෙන තැනටම පාර කැපුනේ සීහ සේනාපති එදා තෙරුවන් සරණ ගිය නිසා. ඒ නිසා තමන්ගේ ජීවිතේ තමන් හරියට තෙරුවන් සරණ තුළ පිහිටනවා නම්, තමන් ශක්තිමත්ව තෙරුවන් සරණ තුළ පිහිටනවා නම්, ඒක තමන්ගේ පරපුරටම කරන යහපතක්. ඒ නිසා පින්වතුනේ ශක්තිමත්ව තෙරුවන් සරණේ පිහිටන්න. බුදුරජාණන් වහන්සේට වඩා වෙනත් සරණක් මට නැත. ධර්මයට වඩා වෙනත් සරණක් මට නැත. ශ්‍රාවක සඟරුවනට වඩා වෙනත් සරණක් මට නැත. අනික් අය මොන දේ සරණ කරගත්තත් මම නම් තෙරුවන විතරයි සරණ කරගන්නෙ. එහෙම තෙරුවන් සරණේ අපි පිහිටන්න ඕන. ඉතින් අද සීහා තෙරණියගේ ගාථා අපි ශ්‍රවණය කළේ. සීහා තෙරණියගේ උතුම් චරිතාපදානය. ඒ සීහා රහත් උත්තමාවියට නමස්කාර කරමින් අපිත් අධිෂ්ඨාන ඇති කරගමු අපිටත් මේ ගෞතම ශාසනයේ සුවසේ පින් පුරාගෙන, සුවසේ දහමේ හැසිරිලා, ඒ රහත් තෙරණිවරු රහතන් වහන්සේලා නිවී සැනසුන අමා නිවන අවබෝධ කරන්න ලැබේවා. සාදු සාදු සාදු!!!

රැස් කල සියලු පුණ්‍ය ධර්මයෝ සියලු දෙවියෝ සතුටු සිතින් අනුමෝදන් වෙත්වා. සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරුන්, සෙන්පති දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවිවරු පින් අනුමෝදන්ව දෙවියෝ දිව්‍ය සැපයෙන් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ ආරක්ෂාව, ආශිර්වාදය, රැකවරණය අපි හැමදෙනාටම දෙවියෝ නොඅඩුවම සලසා දෙත්වා. දෙවියෝ ද සසර ගමනින් අතමිදෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව නිරෝගීව දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා, ගෞතම ශාසනය තුළ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරගනිත්වා, සාදු සාදු සාදු!!! අද ධර්ම දානය සිදු කරන ඒ පින්වත් මේනකා ප්‍රියදර්ශනී මහත්මිය බලාපොරොත්තු වෙන ආකාරයෙන් අද දිනට 41 වෙනි උපන්දිනය සමරන ශ්‍රීපුර පොලිසියේ සේවයේ නියුතු සැරයන් පින්වත් ධම්මික සරත් ස්වාමිපුරුෂයාට මේ සියලූම පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදය නොඅඩුවම සැලසේවා. ජූනි මාසයේ දහ නව දිනට 53 වන උපන්දිනය යෙදුනු පින්වත් එම්. චන්ද්‍රාවතී මැණියන්ට ඒ සියලු පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදය සැලසේවා. තෙරුවන් සරණින්, සියලු දෙවියන්ගේ රැකවරණින්, සියලු යහපත උදාවේවා. තමන්ගේ ජීවිතයට සුවසේ පින් පුරාගන්නටත්, සුවසේ දහම් මග

දියුණු කරගන්නටත් ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්නත් වාසනාව ලැබේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. මේනකා ප්‍රියදර්ශනී මහත්මියගේ නමින් මියපරලොව යන්න යෙදුනා වූ ආදරණීය දෙමව්පියන් ඇතුලු සියලු ඥාති හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන් වෙත්වා. ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා. ඒ ඥාතීනුත් මේ දුක් සහිත සංසාරෙන් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන අදහසින් පින් අනුමෝදනාව සිදු කරන්න. සුජීවත්ව සිටින අනුලාවතී කිරිඅම්මාට පින් අනුමෝදන් වෙත්වා. පොඩි කිරිඅත්තාට, ධනවතී මැණියන්ට සහ ගුණසේකර පියාණන්ට පින් අනුමෝදන් වෙලා නිදුක් නිරෝග සුව සැලසේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. 2021 අ.පො.ස සා/පෙළ විභාගයට පෙනී සිටින පින්වත් පූජා දියණියටත්, 2022 උසස් පෙළ විභාගයට පෙනී සිටින දෙව්මී දියණියට සහ දෙවිඳු දම්සර චූටිපුතාට යන මේ දරුවන්ට පින් අනුමෝදන් වෙලා ඒ දරුවන්ට නිදුක් නිරෝගී සුව සැලසේවා. ජීවිතයට යහපත වෙන්වා දෙන, ජීවිතය හරි පාරේ යොමුකරවන සත්පුරුෂයෝ කල්‍යාණමිත්‍රයෝ මේ දූදරුවන්ට නිතර ඇසුරු කරන්න ලැබේවා. කිසි කලෙකත් පාප මිත්‍රයන්ගේ ඇසුර නොලැබේවා. ජීවිතේ හොඳට ගුණධර්ම දියුණු කරගෙන බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක දූලා පුතාලා විදියට සම්බුද්ධ ශාසනේ පිළිසරණ ලබන්නට වාසනාව ලැබේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. කොරෝනා වෛරසය හේතුවෙන් රෝගාතුරව සිටින ලෝකවාසී හැමදෙනාට නිදුක් නීරෝගී සුවය අපි ප්‍රාර්ථනා කරමු. අද ධර්මදානය සිදු කරනු ලැබුවේ, කැබිතිගොල්ලෑව, වාහල්කඩ, බී2 ලිපිනයේ පදිංචි පිනවත් මේනකා ප්‍රියදර්ශනී ශ්‍රද්ධා මාසික ධර්මදාන සාමාජිකාව විසින්. එතුමියට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික සාමාජිකාවන් සියලු දෙනාට පින් අනුමෝදන් වෙත්වා. ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සෑම දෙනාටත් පින් අනුමෝදන් වෙත්වා. සුපින්වත් ඔබටත් පින් අනුමෝදන්ව පින්වතුන්ලාගේ ජීවිත වල රැකී රක්ෂා ආදී සියලු යහපත් කටයුතු, දූ දරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදී සියල්ල සර්වප්‍රකාරයෙන්ම සමෘද්ධිමත් වෙත්වා. දියුණු වෙත්වා. සුවසේ පින් පුරාගෙන, සුවසේ දහම් මග දියුණු කරගෙන ගෞතම ශාසනයේ චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්න හැමදෙනාටම වාසනාව ලැබේවා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=fZOpbGDW- U

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද දවසේ ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු මේ ධර්ම දේශනාව සඳහා දායකත්වයන් දරනු ලබන්නේ පිළියන්දල මකුළුදූව රත්න මාවතේ පදිංචිව සිටි මීට වර්ෂයකට පෙර මියපරලොව යන්නට යෙදුනු පින්වත් ගමගේ දෝන ලියනෝරා මෑණියන්ට පින් අනුමෝදනා කරන අදහසින්, පින්වත් ජයනන්දන විතාරන පුතණුවන්, මධූ පියංවදා ලේලිය, තිළිණි විතාරන මිණිපිරිය සහ අනුද විතාරන මුණුපුරා විසින්. ඉතින් මේ පින්වතුන්ලා තමන්ගේ මියගිය මෑණියන්ට පින් පෙත් අනුමෝදනා පිණිසයි අද දවසේ මේ ධර්මදානමය පින්කම සිද්ධ කරන්නෙ. අද දේශනාවෙන් අපි ඉගෙන ගන්නේ ජීවිතයක් ජයගත්ත හැටි. ජීවිතය කියන එක ජයගන්නවා කියලා කියන්නෙ ලෝකයේ දුෂ්කරම දෙයයි. යො සහස්සං සහස්සෙන සංගාමෙ මානුසෙ ජිනෙ - යුද්ධ දාහක් කරලා යුද්ධ දාහෙන්ම කෙනෙක් දිනන්න පුලුවන්. ඒකංචි ජෙය්‍ය අත්ථානං සවේසංගාම දුත්තමො - හැබැයි යම් කෙනෙක් තමන්ගේ ජීවිතය දිනනවා නම් ඒ ජීවිතය ජයගැනීම තමයි උතුම්ම යුද්ධය. ඒක තමයි අග්‍රම දේ. ජීවිතය දිනීම. ජීවිතය දිනීම කියන්නෙ දුෂ්කර එකක්. හැබැයි ඒ දුෂ්කර දේ පින් තිබුනු විරෝධාර පුරුෂයොත් කලා. පින් තිබුනු විරෝධාර ස්ත්‍රීනුත් කලා. ඒ අමා නිවන් දුටු රහත් තෙරණිවරු කියන වැඩසටහනින් අපි ඉගෙන ගන්නෙ ජීවිතය දිනන්න තරම් පින් තිබුනු ඒ මහා පින්වන්ත කාන්තාවන්ගේ චරිතාපදාන. ඊළඟට ඒ උත්තමාවියන්ගේ සුන්දර අදහස්. අද අපි ඉගෙන ගන්නෙ මේ බුද්ධ ශාසනයේ අගතනතුරු ලැබූ මහා ශ්‍රාවිකාවක් ගැන. ඒත ධග්ගං භික්ඛවෙ මමසාවකං සාවිකානං භික්ඛුනීනං ජ්‍යායීනං - මහණෙනි මාගේ ශ්‍රාවක වූ භික්ෂුණීන් අතර ධ්‍යාන වඩන භික්ෂුණීන්ට අග්‍ර වන්නේ යදිදං නන්දා - මේ නන්දාවයි කියලයි භාග්‍යවතුන් වහන්සේ අග තනතුරු ප්‍රදානය කලේ. ඇගේ නම ශාසනික ව්‍යවහාරය තුළ

නන්දා කියන නමින් සඳහන් වෙනවා. ඒ වගේම සුන්දරී නන්දා කියන නමිනුත් සඳහන් වෙනවා. මේ නන්දා කියන රහත් තෙරණියගේ චරිතාපදානය අපේ දහම් පොත් වල ආරම්භ වෙන්නෙ මීට කල්ප ලක්ෂයකට ඈත සිට. සාමාන්‍යයෙන් මහා ශ්‍රාවක ශ්‍රාවිකාවන්ගේ චරිතාපදාන පින්වතුනි, පදුමුත්තර බුද්ධ ශාසනයේ, මීට කල්ප ලක්ෂයකට ඈත ඉඳලා තමයි ආරම්භ වෙන්නෙ. පදුමුත්තර බුද්ධ ශාසනයේ නන්දා භික්ෂුණිය, නන්දා අර්හත් තෙරණිය සාමාන්‍ය ස්ත්‍රියාවක් විදියට ඉපදිලා හිටියා. ඇය නිතර බණ අහන්න යනවා. නිතර භික්ෂුණීන් ඇසුරු කරනවා. එතකොට ඒ බුදු සසුනේ ධ්‍යාන වඩන භික්ෂුණීන්ට අග්‍ර වෙච්චි භික්ෂුණියව හමුවුනා. ඒ වෙලාවේ තමයි හිතක් උපන්නෙ අනේ මා හටත් මතු අනාගතේ බුදු සසුනක ධ්‍යාන වඩන භික්ෂුණීන්ට අග්‍ර වෙන්න ඇති නම්. ඒ හිතුවිල්ල මුල් කරගෙන ඒ ජීවිතෙත් පින් පිරුවා, සසර ගමනේත් පින් පිරුවා. පින් පුරාගෙන පැමිණිලා මේ ජීවිතේ ගැන කතා කරනකොට ඈ මේ ගෞතම බුදුරජාණන් වහන්සේගේ බුද්ධ ශාසනය පහළ වුන මේ යුගයේ සුද්ධෝදන මහරජ්ජුරුවන්ටත්, ප්‍රජාපතී ගෞතමී මහබිසවුන් වහන්සේටත් දාව කපිලවස්තු රජ කුලයේ උපන්නා. සුද්ධෝදන රජ්ජුරුවන්ගේත්, ප්‍රජාපතී ගෞතමී බිසවුන් වහන්සේගේ දියණිය විදියට ඇයට නම් තැබුවා, නන්දා. තරුණ වයසට එළඹෙනකොට ඇය හරීම රූප සුන්දරියක්. ඒ නිසා ඇයට නන්දා කියන නම වෙනුවට පාවිච්චි වුනා සුන්දරී නන්දා ජනපද කල්‍යාණි. මේ කපිල වස්තු ජනපදයම සුන්දර කරන කපිල වස්තු ජනපදයටම කල්‍යාණියක් වූ අපේ සුන්දරී නන්දා. අන්න එහෙම ප්‍රසිද්ධ වුනා. ජනපද කල්‍යාණි කියලා කිව්ව ගමන් පින්වතුන්ලාට මතක් වෙන්න ඇති කවුද මේ? මේ නන්ද කුමාරයා සමඟ විවාහ වීම පිණිස සූදානම් වෙලා හිටපු කෙනා. විවාහය හෙට කියලා නන්ද කුමාරයා බුද්ධ ශාසනයේ පැවිදි වුනා. ජනපද කල්‍යාණිව අත්හැරලා ගියා. ජනපද කල්‍යාණි නන්ද කුමාරයා කෙරෙහි බලවත් ස්නේහයකින්, බලවත් ආදරයකින් හිටපු කෙනෙක්. ඒ හින්දාමනේ බුදුරජාණන් වහන්සේ සමඟ නන්ද කුමාරයා මාළිගාවෙන් පිටත් වෙලා එනකොට ඇය උඩුමහලේ සීමැදුරු කවුළුවෙන් බලාගෙන නන්ද කුමාරයාට ඉඟි කලානෙ, ගියාට කමක් නෑ, ආයෙ ඉක්මණට එන්න කියලා. හැබැයි ඈ ඒ හිතාගෙන හිටපු ඒක ඒ විදියට වුන් නෑ, නන්ද කුමාරයා ගියා ගියාමයි ආයෙ ආවෙ නෑ. බුද්ධ ශාසනයේ පැවිදි වුනා කියලා අහන්න ලැබුනා. බුද්ධ ශාසනයේ පැවිදි වුනා කියන කාරණය අහලත් යම් කාලයක් බලාගෙන හිටියා, පැවිදි වුනත් පස්සේ හරි එයි. පස්සේ ආවෙත් නෑ. එතකොට ඇට විශාල කලකිරීමක්

හටගත්තා හිතට. ආදරය කරන කෙනෙක් වෙන්වීමේ දුක. ප්‍රිය කෙනෙක් වෙන් වී යාමේ දුක. තමන් මැවූ සිහින බොඳ වීමේ දුක. ඒක වාවගන්න බැරිව හරි කළකිරීමෙන් ඈ හිටියේ. ඒ කළකිරීමෙන් ඉන්නකොට ඈ කැමැති වුනෙත් නෑ වෙනත් ස්වාමිපුරුෂයෙක්, වෙනත් පෙම්වතෙක් එක්ක තමන්ගේ ජීවිතය පටන් ගන්න. අවසානෙ ඈ තීරණය කලා නන්ද කුමාරයත් පැවිදි වුනා නම්, මාත් ගිහි ජීවිතය අත්හැරලා පැවිදි වෙනවා. ඒ පැවිදි වෙනවා කියලා ගත්ත තීරණය හැබැයි මේ ජීවිතය ගැන තේරිලා, දුක ගැන තේරිලා එහෙම අරගත්ත එකක් නෙවෙයි. නන්ද කුමාරයත් මහණ වුනා නම් මාත් මහණ වෙනවා. අන්න එහෙම මහණ කමක්. පැවිදි වුනාට තමන්ගේ සුන්දර රූපය ගැන ඇයට හැමතිස්සෙම තිබුනා ආසාවක්, මත්වීමක්. ඇය පැවිදි වෙලාත් කණ්ණාඩිය ඉස්සරහට ගිහින් නිතර රූපය බලනවා. මේ දොළ පාරක් දැක්කොත් වතුරෙන් තමන්ගේ රූපය බලනවා. රූපයේ හැඩවැඩ ගැන නිතර හිතනවා. මෙහෙම හිත හිතා වාසය කරනකොට ඇයට වැරදි පණිවිඩයකුත් හම්බවුනා, සමහර වෙලාවට බුදුරජාණන් වහන්සේගේ දහම් පදයම වරදවාගත්තු භික්ෂුණියක් තමයි මේක කියන්න ඇත්තෙ. ඇයට කිව්වා බුදුරජාණන් වහන්සේ නම් ඔය රූපයට කැමැති නැනෙ. උන්වහන්සේ මේ රූපයේ තියෙන දොස්ම නෙ කියන්නෙ. රූපයේ තියෙන අඩුවක්මයි කියන්නෙ. උන්වහන්සේ රූපය වර්ණනා කරන් නෑ කිව්වා. එතකොට රූපය කෙරෙහි අධිකතර ආසා ඇති සුන්දරී නන්දා තෙරණිය හිතුවා, එහෙනම් ඉතින් රූපෙට අකැමැති කෙනෙක්, මෙච්චර ලස්සන රූපෙට අකැමැති කෙනෙක් මෙච්චර ලස්සන රූපයේ දොස් කියනා කෙනෙක් ළඟට මං මොකටද යන්නෙ බණ අහන්න. මහණ වුනාට කමක් නෑ මං බණ අහන්න යන් නෑ. ඇය එහෙම හිතන් හිටියා. නමුත් එක දවසක් අනිත් යහපත් භික්ෂුණීන් වහන්සේලාගේ කීමට ඇය බණ අහන්න ගියා. බණ අහන්න ගිහිල්ලා කෙළවරට වෙන්න කාටවත් පේන්නේ නැතිව බුදුරජාණන් වහන්සේගේ ඇස් මානයට නොපෙනෙන විදියට ඈ හොරාට වාඩිවුනා. වාඩිවුනාට පස්සෙ දැන් ශාස්තෘන් වහන්සේ වැඩම කරලා ධර්ම කතාව ආරම්භ කලා. ධර්ම දේශනා කරනකොට ඒ මිහිරි ස්වරය. පුරවි කිරිල්ලකගේ නාදය පරදන තරම් මියුරු ස්වරය, ගම්භීර බ්‍රහ්ම ස්වරය ඇහෙනකොට ඇගේ හිත දැන් ඇදී යනවා. ඈ දැන් හැඟවිලා හේත්තු වෙලා හිටපු බිත්තියෙන් චූට්ටක් එළියට ඔළුව දාලා භාග්‍යවතුන් වහන්සේ දෙස බැලුවා. මෙන්න බලද්දි ඇයට පේනවා බුදුරජාණන් වහන්සේ සමීපයේ මේ මනුස්ස ලෝකයේ දැකගන්න නැති තරම් රූප සෝභා ඇති දෙව්ලියක් වගේ සුන්දර ස්ත්‍රියාවක්, බුදුරජාණන් වහන්සේට පවන්

සලනවා. මේක සෘද්ධියක්. මේක මහාකාරුණික බුදුරජාණන් වහන්සේ කරන ලද සෘද්ධියක්. ඒ සෘද්ධිය බුදුරජාණන් වහන්සේ කලේ සුන්දරී නන්දාවම අරමුණු කරලා. භාග්‍යවතුන් වහන්සේ සාමාන්‍යයෙන් දහම් දෙසන්න පෙර ඒ විස්මිත සම්බුදු නුවණින් බලනවා, කවරෙක්ද අවබෝධ කරන්නෙ. බුදුරජාණන් වහන්සේ දැක්කා අවබෝධය පිණිස මෝරා ගිය පින් ඇතිව ඉන්නවා. අවබෝධය පිණිස මෝරා ගිය පින් ඇතිව හැංගිලා කෙනෙක් ඉන්නවා, බුදුරජාණන් වහන්සේ මාව දකින්දෝ කියලා හිතාගෙන. අන්න ඒ කෙනාට තමයි ධර්මාවබෝධයට පින තියෙන්නෙ. ඒ කෙනා උදෙසා බුදුරජාණන් වහන්සේ සෘද්ධියක් කලා. මේ සෘද්ධිය ගැන පින්වතුන්ලා අවස්ථා කීපයකදීම අහලා තියෙනවානෙ. ඛේමා බිසවුන් වහන්සේට මේ සෘද්ධිය බුදුරජාණන් වහන්සේ කලා. අභිරූපී නන්දාවන්ට කලා. මේ ආදී අවස්ථා කීපයක්ම තියෙනවා. බුදුරජාණන් වහන්සේ සුන්දරී නන්දා තෙරණියටත් මේකම කලා. දැන් සුන්දරී නන්දා තෙරණියට ඔක්කොම අමතක වුනා. බුදුරජාණන් වහන්සේ දේශනා කරන බණ පදත් ඈට ඇහෙනවා. අර රූපයටත් හිත හොඳටම ඇදී ගියා. බුදුරජාණන් වහන්සේ සෘද්ධියෙන් මේ රූපය වයෝවෘද්ධ වෙන්න සැලැස්සුවා. තමන්ගේ රූපයට වඩා අතිශයින්ම ලස්සන ස්ත්‍රී රූපය වැහැරී යන හැටි ඇයට පේනවා. ඇය එතකොට කල්පනා කලා මෙච්චර ලස්සන ස්ත්‍රී රූපෙත් වැහැරී ගියා නම් මාගේ රූපය ගැන කවර කතාද. අන්න සිහිය උපන්නා. අන්න සිහිය උපන්නා ඇයට, ධර්මය අහන්න, ධර්මය ආසාවෙන් ශ්‍රවණය කරන්න හිත පිහිටියා. ඒ හිත පිහිටි මොහොතේම බුදුරජාණන් වහන්සේ ජීවිතේ දිනන්න ඕන කරන ලස්සන ධර්මයක් වදාළා. ඒ ධර්මය ජීවිතේ දිනන්න උවමනා වෙන නිසා ජීවිතේ දිනීම උදෙසා මේ ධර්මය වදාළ නිසා ඒ ධර්මය සංගීතිකාරක රහතන් වහන්සේලා සංගායනා කලේ විජය සූත්‍රය නමින්. විජය කියලා කියන්නෙ ජයගැනීම. ජයගැනීම කියන මාතෘකාවෙන් මේ අන්තර්ගත වෙන සූත්‍ර දේශනාව මොකක්ද, බොහොම ලස්සනයි. චරං වා යදි වා තිට්ඨං නිසින්නො උදවාසයං සම්මිඤ්ජෙති පසාරෙති ඒසා කායස්සයිංජනා - යන විට හිඳින විට සැතපී සිටින විට අත්පා දිග හරින විට හකුළුවන විට දත යුතුය මෙය සොඳිනේ චලනය පමණි සිරුරේ. මේ ජීවිතය තුළ ඉරියව් පවත්වනකොට අතපය දිග හරිමින් හකුළුවනකොට ඒ ගැන හොඳට තේරුම් ගන්න ඕන කියනවා නුවණින්. මේක මේ සිරුරේ චලනයක් පමණි. ඒක තමයි නුවණින් තේරුම් ගැනීම. බාහිර ලෝකයේ අය තමන්ගේ ශරීරයේ චලනය ගැනවත් අනුන්ගේ ශරීර වල චලන ගැනවත් එහෙම නුවණින්

දකින්නෙ නෑ. බාහිර අය කොහොමද දකින්නෙ, ධර්මය නොදන්න කෙනා කොහොමද කල්පනා කරන්නෙ? තව කෙනෙක් ඇවිදින හැටි බලන්න හිතෙනවා, ෂා ලස්සන ගමන. හරි හැඩයිනෙ ඒ ගමන. එහෙම නැත්නම් හිතනවා එයා ගමන් කරන හැටි නම් හරි කැතයි. ඒ ඇවිදින විදිය හදාගත්තා නම්. තමන්ගේ ගමන තමන් හදාගන්නවා. සමහර වෙලාවට කණ්ණාඩිය ඉස්සරහා ඇවිදලා බලනවා මං මෙහෙම ගියොත් ලස්සනයිද. මං මෙහෙම කකුළ තිබ්බොත් ලස්සනයිද. මෙහෙම වේගෙ වැඩියි වගේද. අමතක වෙනවා, මේක මේ ඉරියව් පවත්වන කයේ චලනයක් පමණි කියලා. වසඟ වෙනවා ඉරියව් පැවැත්මටම. එයා බලන විදිය ලස්සනයි, එයා හිනාවෙන විදිය ලස්සනයි. එයා පැත්තෙන් බැලුවම ලස්සනයි, අපි එහෙම කියන් නැද්ද. ආන්න වසඟ වෙලා, මුලා වෙලා. ඒ මුලාවෙන් එළියට ඇවිල්ලා ඇත්ත බලන්න කියනවා, මේක මේ සිරුරේ තියෙන චලනයක්ම පමණි. අට්ඨිනහාරු සංයුත්තො තච මංසාව ලේපනො ඡවියා කායෙ පටිච්ඡන්නො යථා භූතං නදෙස්සති - ඇට නහරින් යුතුව සම් මස් එහි ගෙතුව සිරියෙන් වැසුනු කය ලොව ඇති තතු වැසුව, ඔන්න මතක තියාගන්න හොඳ අර්ථයක්. සිවියෙන් වැසුනු මේ කය ලොව ඇති තතු වැසුව. මේ ශරීරය සිවියෙන් වැහුනා කියලා කියන්නෙ මොකක්ද සිවිය? හම. හම කියන සිවියෙන් මෙය වැසී ගිය කල්හි ලෝකෙම වැහුනා. ඇයි මේක දැක්ක ගමන් වසඟ වෙනවානෙ. මේකෙ හම් පොත්තෙන් ඔක්කොම ටික වහලා දානවා. ඒ හම්පොත්තෙන් වැහිලා ගියපු ශරීරයට තමනුත් වසඟ වෙනවා, අන් අයවත් වසඟ වෙනවා. එයාගේ හමේ පාට නම් හරි ලස්සනයි. එහෙම නැත්නම් හිතනවා එයා තව චුට්ටක් සුදු වුනා නම්, තවත් ලස්සනයි. මෙහෙම වසඟ වෙන්නැද්ද. තමන්ගේ ශරීරයටත් වසඟ වෙනවා. තමන්ගේ හමක් සුදු කරගන්න කොච්චර වෑයම් කරනවාද, තමන්ගේ හම පැහැපත් කරගන්න කොච්චර වෑයම් කරනවාද. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා සිවියෙන් වැසුනු කය ලොව ඇති තතු වැසුව. අන්ත පූරො උදර පූරො යකපෙලස්ස වත්තිනො හදයස්ස පප්පාසස්ස වක්කස්ස පිහකස්සච - වැළඳූ බොජුන් පිරි බඩවැල් පිරුණු කය හදවත අක්මාව හා ඇති වකුගඩුය, කැවුතුමස පිරුණු බඩදිව මෙහි රැඳුණු. අර හම කියන සිවිය ඉවත් කලා නම් පේන්න තියෙන දේවල්, හම කියන සිවිය ඉවත් කරලා තියෙද්දී මේකෙ පේනවා, වැළඳූ භෝජන පිරිලා තියෙනවා බලු වමනයක් වගේ. වැළඳු භෝජන මේ කුසේ කොහේ හරි පිරිලා තියෙනවා හරියට වමනෙ එකක් මල්ලක දැම්මා වගේ. ඊළඟට මේක අස්ස හදවත, අක්මාව, වකුගඩු, කැවුතු මස, බඩදිව මේවා ඔක්කොම පේන්න

ගන්නවා. සිංඝානිකාය කේලස්ස සේදස්ස මේදස්සච ලෝහිතස්ස ලසිකාය පිත්තස්සච වසායච - කෙල සොටු දහදියද ගලනා මේද තෙල, ලේ සඳමිදුළු පිත හා යුතු උරුණු තෙල. මේ ශරීරයේ තියෙන අශුචි සහගත දේ. අපස්ස නවහිසෝතේහි අසුචි සවති සබ්බදා - දොර නවයකින් ගලන අශුචිය මෙහි සැමදා. දොරටු නවයකින් මේ ශරීරයෙන් හැමතිස්සෙම අශුචි ගලමින් තිබේ. අක්කිම්හා අක්කි ගෝතකො - ඇස පිරී කබ ද, මේ ඇස් වලින් ගලනවා කබ කඳුළු. ඇහැ කියන දොරටුවෙන් මේ ශරීරය ඇතුලේ ඉඳලා පිටතට ගලාගෙන එනවා අශුචියක්, කබ කඳුළු. කන්නම්හා කන්නගෝතකො - කන් වලින්, කන කියන සිදුරෙන් මේ ශරීරයෙන් එළියට ගලාගෙන එනවා, එහෙම නැත්නම් මේ කන් වලින් එළියට එනවා මේ කන සිදුරෙන් කන්හගූත, කණින් අශුචි එනවා, ඒවට මොනවද කියන්නෙ, කණකාරළු. සිංඝානිකාච නාසාතො - නහය කියන සිදුරෙන් සොටු ගලන්නේය. මුඛේන වමතේ කදා - මුඛයෙන් පිත සෙම ගලන්නේය. පිත්තං සෙම්හංච වමතේ කායම්හා සේද ජල්ලිකා - මේ සිරුරෙන් වැගිරෙන්නේ දහදිය හා දැලිය. මේ ශරීරයෙන් හැමතිස්සේම දහදිය ගලන්න පටන් ගන්නවා. ඉතින් මේ දේවල් තමයි මේ ශරීරයේ සත්‍යය ස්වභාවය. රූපය කියන එකට මුසපත් වෙලා වසඟ වෙච්චි සුන්දරී නන්දාට මෙන්න මේ බණ පදය බුදුරජාණන් වහන්සේ කියාදෙනවා. දැන් ඈ සංවේගයට පත්වෙලා, ජීවිතය ගැන ඇත්ත සිහි කර කර මේ බණ පදය අහගෙන ඉන්නවා. අතස්ස සුසිරං සීසං මත්තලුංගස්ස පූරිතං සුගතො නං මඤ්ඤති බාලො අවිජ්ජාය පුරක්කතො - හිස් මොළ පිරුනු කබලකි හිස ඇති සිදුරු සොඳුරුව පෙනේ නැණ නැති පිරිසට අඳුරු. මේ හිස සාමාන්‍යයෙන් ගත්තොත් එහෙම හිස් මොළය කියන එකෙන් පිරිච්චි සාමාන්‍ය කබලක් තියෙන්නෙ ඕනම කෙනෙක්ගෙ. නමුත් මේ මුහුණත් තහඩුව කියන එක, මේ හිස කියන එක හැමකෙනාගෙම ජීවිතේ වසඟ කරන එක. හැමෝම තමන්ව අඳුනගන්නෙ මුහුණත් තහඩුවෙන්. අනිත් අයව අඳුනාගන්නෙත් මුහුණත් තහඩුවෙන්. අපි හිතමු අපි සමූහ ඡායාරූපයක් ගත්තා කියලා විනෝද චාරිකාවක් ගිහිල්ලා. විනෝද චාරිකාවේ අපි සමූහ ඡායාරූපයකට පෙනී හිටියා, ඔන්න ඒ ෆොටෝ ටික කවුරුහරි පෙන්වනවා. පෙන්නනකොට ෆොටෝ තලයේ ඒ ෆොටෝ එක බලනකොටම අපි එක්කෙනෙක්ව හොයනවා, කාවද අපි හොයන්නෙ? අපේ මුහුණත් තහඩුව. අපි හොයනවා ඒ ෆොටෝ එකේ. මං කොහොමද ලස්සනට ඉඳලද. මගේ ඉරියව්ව අව්ලක් නැතිව තිබිලද, අපි හොයනවා. අපි අපේම රූපයටත් වසඟ වෙලා යනවා. ඊළඟට අපි මේ සමාජයේ ඇවිදගෙන යනකොට තවත් මූණත්

තහඩුවක් අපිට හම්බෙනවා අපි වසඟ වෙනවා. ඊටපස්සෙ අපි ඒ මූණත් තහඩුවම හොයන්න පටන් ගන්නවා. සමහර කෙනෙකුට එක මුහුණත් තහඩුවකින් සෑහෙන්න බෑ. තව තව ඒවා පස්සෙ යනවා. ඉතින් මේක තමයි නැණ නැති පිරිසගේ ස්වභාවය. යදා ච සො මතො සේති උද්දො මාතො විනීලකො අපවිද්දො සුසානස්මිං අනපික්කා හොන්ති ඤාතයො - මල පසු යම් දිනෙක ඉදිමී නිල්වීමෙන් අත්හැර දමති නෑසියො සොහොනේ ලෑමෙන්. නමුත් ඔය ඔක්කොම ඇප උපස්ථාන කර කරා පෝෂණය කර කරා පාට වෙනස් වෙන්න බෙහෙත් බිබී විලේපන තවර තවරා නොයෙක් ආකාරයෙන් නඩත්තු කර කර ඉන්න මේ ශරීරය යම් දවසක මිය යනවා. මියපරලොව ගියාට පස්සෙ, අපි හිතමු ආදරය කරන කෙනෙක් මියපරලොව ගියා. ඒ මියපරලොව ගිය කෙනා මියගියාට පස්සෙ ඥාති සමූහයා අප්පේ අපි ආදරය කරපු කෙනා නොවැ කියලා ගෙදර හොඳට ආරක්ෂිතව සංරක්ෂණය කරලා තියාගන්නෑ. ඒ මැරිච්ච කෙනාගේ මෘත ශරීරය ඉක්මණට ගිහින් දානවා සොහොනට. ඇයි මේක ඉදිමෙන්න පටන් ගන්නවා. මේක ඉදිමිලා සමත් සිදුරු කරගෙන ඇතුලෙන් ලේ සැරව ඕජාව ගලන්න පටන් ගන්නවා. ඊට කලින් ඥාතීන් ඉක්මන් කරලා මේක සොහොනට ගෙනිහින් දානවා, එක්කො පුච්චලා දානවා, එක්කො වලක් කපලා වළලලා දානවා. අපේක්ෂා රහිතව මේ ශරීර කූඩුව බැහැර කරලා දානවා. කවුරුත් මේක ජීවත් වෙනකොට තියෙන වටිනාකම මේක ගිය ගියාට පස්සෙ දෙන්නෙ නෑ. ඇයි හේතුව, මියගියාට පස්සෙ තමයි මේ ශරීරයේ, මේ කුණු ශරීරයේ ඇත්ත ස්වභාවය ප්‍රකට වෙන්න පටන් ගන්නෙ. ජීවත් වෙලා ඉන්නකොටත් ප්‍රකටයි, හැබැයි මුලාව විසින්, මෝහය විසින් ඒ ඔක්කොම අමතක කරලා වසඟ කරලා දානවා මේකට. ඥාණය නැති කෙනාට ජීවත් වෙලා ඉන්න කාලෙ තියෙන්නෙ අඳුරක්. තමන්ගේ ශරීර ගැනත්, අන් අයගේ ශරීර ගැනත්. දැන් එහෙම සිද්ධියක් වුනේ සැවැත් නුවර, සිරිමාව. සිරිමා කියලා කියන්නෙ කහවණු ගාණක් දීලා, කහවණු හාර පන්සීයක් දීලා තමයි සිරිමාව එක වතාවක් ඇසුරු කරන්න වුනේ පුරුෂයෙකුට. සිරිමා කියලා කියන්නෙ වෛශ්‍යාවක්, නගරසෝභනියක්. ඇයව ඇසුරු කිරීම පිණිස මිලක් තිබුනා. කහවණු දෙතුන් සීය දීලා ඇව ඇසුරු කරන්න ඕන, එක මොහොතකට. එතකොට එහෙම කහවණු දිදී මිනිස්සු ඇව ඇසුරු කලා. ඈ මියපරලොව ගියා. ඈ මියගියාට පස්සෙ මේකෙ අර්ථය පහදන්න බුදුරජාණන් වහන්සේ පසේනදී කොසොල් රජ්ජුරුවන්ට දැනුවත් කිරීමක් කරනවා, රජතුමනි මියගියපු සිරිමාවගේ මෘත ශරීරයේ දැවීම් කටයුත්තක් කරන්න දෙන්න එපා. ඒ ශරීරය

සොහොනට අරගෙන ගිහින් දාලා ඔබේ සේවකයො ලව්වා ආරක්ෂා කරවන්න, කිසිම සතෙකුට කටගහන්න බැරිවෙන විදියට. බුදුරජාණන් වහන්සේ කියපු විදියටම රජ්ජුරුවො කලා. දවස් හතක් ගතවුනා. දවස් හතක් ගතවෙනකොට මේක ඉදිමිලා, නිල්වෙලා ඕජාව ගලන්න පටන් අරගෙන. මේ මුළු සැවැත්නුවරම හිටපු පුරුෂයො වසඟ වෙලා හිටපු රූපෙ. දවස් හතකට පස්සෙ බුදුරජාණන් වහන්සේ භික්ෂූන් පිරිවරාගෙන එතනට වැඩම කරනවා. බුදුරජාණන් වහන්සේ එහි වඩිනවා කියලා ආරංචි වෙච්චි මිනිස්සුත් එකතු වුනා. දැන් මිනිස්සුන්ට අහලකට ලංවෙන්න බෑ ගන්දස්තාරෙ. භාග්‍යවතුන් වහන්සේ කොසොල් රජ්ජුරුවන්ගෙන් අහනවා රජතුමනි, මේ කුණු වී දුගඳ හමන ශරීරය මේ ස්ත්‍රී ශරීරය කාගේද. ස්වාමීනී මේ සැවැත් නුවර නගරසෝභනී වූ සිරිමාවගේ සිරුරයි. කිම මහාරාජය මැය තාමත් සිරිමා ම ද, එහෙමයි ස්වාමීනී මේ සිරිමා මයි. ඇයි සිරිමාව අඳුනගත්තේ ඇගේ හැඩයෙන්. මූණත් තහඩුවේ සටහනින්. මූණත් තහඩුවෙන්නෙ සිරිමා හඳුනගන්නෙ. සිරිමාගේ ලස්සන ඇස්, සිරිමාගේ ලස්සන නහය, සිරිමාගේ ලස්සන තොල්, සිරිමාගේ ලස්සන කෙස් කළඹ එහෙමනෙ අඳුනගන්නෙ. මෑ තාමත් සිරිමා කිව්වා. බුදුරජාණන් වහන්සේ ඇහුවා මහරජ, සාමාන්‍යයෙන් සිරිමාව එකමොහොතකට ඇසුරු කරන්න කොච්චර මිලක් නියම වෙලා තිබුනාද. රජ්ජුරුවො කියනවා ස්වාමීනී, කහවණු සීයක පමණ මිලක්. ඇතැම් අවස්ථා වල ඊටත් වැඩියි. හොඳයි මහරජ, එහෙමනම් මෙතන ඉන්න ඕනම පුරුෂයෙකුට කහවණු සීයක් දීලා එක මොහොතකට නෙවෙයි හැමදාකටම මැයව අරගෙන යන්න කියන්න කිව්වා. ඉතින් රජ්ජුරුවො මේ කාරණය කියනවා, මහා පිරිසක් ඉන්නවා. කිසි කෙනෙක් මීක් කියන් නෑ. බුදුරජාණන් වහන්සේ අනුක්‍රමිකව ගාණ අඩු කලා. ගාණ අඩු කලාටත් කිසිම කෙනෙක්ගේ හඬක් නෑ. අවසානෙ භාග්‍යවතුන් වහන්සේ වදාළා, මේ සිරිමාගේ ශරීරය මිලක් ගෙවන්න ඕන නෑ, නිකං අරගෙන යන්න කියන්න. නිකං අරගෙන යන්න කෙනෙකුත් නෑ. ඇයි මේ ශරීරයේ දැන් ඇත්ත ප්‍රකට වෙලා තියෙනවා. බුදු කෙනෙක්ගේ මහා කරුණාව මේ වගේ සිදුවීම් ගැන බලද්දි අපිට පේනවා පින්වතුනි, මිනිස්සුන්ට ධර්මාවබෝධයක් ලබලා දෙන්න, මිනිස්සුන්ට ජීවිතේ ගැන වැටහීමක් ලබලා දෙන්න බුදුරජාණන් වහන්සේ හරි පුදුම සහගත දේවල් කලා. ඉතින් ඒ සිරිමා ඉදිරියේ භාග්‍යවතුන් වහන්සේ ධර්මය වදාළා, ඒ ධර්ම දේශනා අවසානයේ, එදත් භාග්‍යවතුන් වහන්සේ මේ විජය සූත්‍රය දේශනා කලා. ඒ දේශනාව අවසානයේ බොහෝ පිරිසක් දහම් ඇස පහළ කරගත්තා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා

කරනවා කාදන්ති නං ස්වානාච සිඟාලා ච වකාකිමේ කාකාගිජ්ජාච කාදන්ති යේචං ඡේසන්ති පානිනා - කති එය සිවල්ලුද වෘකයන් හා පණුවො, ලිහිණි ද කවුඩු වෙත මලකුණ බත සැදුවො, මෘත ශරීරය අරගෙන ගියාට පස්සෙ ඒක නොයෙක් නොයෙක් සත්තුන්ට බත සදනවා. ඒ මෘත ශරීරයේ ඒ සතුන්ගේ බඩ පුරවන ආහාරයක් බවට පත්වෙනවා. සුත්වා න බුද්ධ වචනං භික්ඛු පඤ්ඤාන වා ඉධ සෝකෝ නං පරිජානාති යථා භූතං හි පස්සති - බුදු බණ අසන නුවණැති සමණන්ට මෙය ඇති තතු දකින කමටහනකි වඩති එය. බුදුරජාණන් වහන්සේගේ ධර්මය අහන ඥාණවන්ත භික්ෂූන්ට භික්ෂුණීන්ට මේ මළකුණ කමටහනක්. කමටහන කියලා කියන්නෙ මොකක්ද, ජීවිතේ ඇත්ත තේරීම පිණිස විදර්ශනා වඩන්න සටහනක්. ජීවිතේ ඇත්ත පහදාගන්න සටහනක්. නුවණ තියෙනවා නම් ජීවිතේ ඇත්ත පහදාගන්න මළකුණත් කමටහනක්. නුවණ තියෙන කෙනාට ජීවිතේ ඇත්ත තේරුම් ගන්න වයසට ගියපු කෙනෙක් දැකීමත් කමටහනක්. නුවණ තියෙන කෙනෙකුට ජීවිතේ ඇත්ත තේරුම් ගන්න ලෙඩ වෙච්චි මනුස්සයෙක් දකින එකත් කමටහනක්. නුවණ තියෙන මනුස්සයෙකුට ජීවිතේ ඇත්ත තේරුම් ගන්න එදා උපන් පොඩි දරුවෙක් දකින එකත් කමටහනක්. යථා ඉදං තථා ඒතං යථා ඒතං තථා ඉදං අජ්ජත්තං ච බහිද්දා ච කායේ චන්දං විරාජයේ - කල්පනා කරනවා ඒ නුවණැති භික්ෂුව හෝ භික්ෂුණිය තම කය යම් සේද මළකුණ එලෙසේය. තමන්ගේ ශරීරය යම් විදියකින්ද, මළකුණත් ඒ විදියමයි. දැන් මෘත ශරීරයේ යම් යම් අවයව අඟ පසඟ තිබේද, අභ්‍යන්තර කොටස් තිබේද, ඒවාමයි තමා ගාවත් තියෙන්නෙ. තමන් ගාව තියෙන ඒවමයි මෘත ශරීරයේත් තියෙන්නෙ. මළකුණ යම් සේද තම කය එලෙසේය. මේ මළකුණේ යම් යම් සටහන් තියෙනවාද යම් යම් අවයව තියෙනවාද ඒ මෘත ශරීරයේ යම් යම් ශරීර කොටස් එකතු වෙලා හැදුනාද ඒ ඔක්කොම තමයි තමන් ගාවත් තියෙන්නෙ. ඇතුලත පිටත සිරුරේ ඡන්දරාගය දුරුකර දමයි හේ එය වඩන ශෝකය. මේ ශරීරය ගැන අභ්‍යන්තර වශයෙනුත් බාහිර වශයෙනුත් යම් ඡන්දරාගයක් ඇත්ද, ඒ ඡන්දරාගය නිසාමයි ජීවිතේ ශෝකය උපදින්නෙ. ඡන්දරාගය තියෙන තැනමයි ශෝකය උපදින්නෙ. තමන් ගැන ඡන්දරාගය තියෙනවා, අනුන් ගැනත් ඡන්දරාගය තියෙනවා. තමන් ගැන තියෙන ඡන්දරාගය නිසා තමන්ගේ වෙනස්වීම් දරාගන්න බෑ. සෝකය උපදිනවා. අනුන් ගැන තියෙන ඡන්ද රාගය නිසා අනුන්ගේ වෙනස්වීම් දරාගන්න බෑ, සෝකය උපදිනවා. ඡන්දරාගය නිසා තමයි දුක්ගිනි ඔක්කොම. දවසක් බුදුරජාණන් වහන්සේ ළඟට භද්‍රකගාමිණී ඇවිත් අහනවා ස්වාමීනී, මට

දුකත්, දුකේ හටගැනීමත්, දුකේ නැතිවී යාමත් මේ කාරණා ස්වාමීනී මට සරලව කියලා දෙන්න. බුදුරජාණන් වහන්සේ දේශනා කලා ගාමිණී, ඔබේ විවාහක බිරිඳ, ඔබ විවාහ වෙච්චි ස්ත්‍රිය ඇය ගැන ඔබ යම් කලෙක අහලා තිබුනෙ නැත්නම්, එහෙම නැත්නම් ඇය ගැන යම් දවසක ඔබට ඔබේ ඇස් දෙකෙන් දකින්න ලැබෙන් නැත්නම් ඔබට ඇය සම්බන්ධයෙන් ප්‍රේමයක්, ඇල්මක්, මනාපයක් හටගනීවිද? අනේ නෑ ස්වාමීනී ඇය යම් දවසක මා දැක්කා ද ඇය ගැන තොරතුරු අහන්න ලැබුනාද, එදා තමයි ඈ පිළිබඳව හිතක් මට උපන්නෙ. ඉතින් ගාමිණී දැන් හදිසියේ වත් ඇය ඔබෙන් වියෝ වී ගියොත් ඔබට මක්වෙයිද? ස්වාමීනී මට උහුලාගන්න බැරිවෙයි. ඇයි ගාමිණී එසේ සිද්ධ වෙන්නෙ? ස්වාමීනී ඈ කෙරෙහි මට ඡන්දරාගය තිබේ. අන්න සෝකය උපද්දන්නෙ මොකකින්ද? ඡන්දරාගයෙන්. ඡන්දරාගය දුරු කරලා දැම්මා නම් සෝක මොකුත් නැත්තේය. එතකොට නුවණැති භික්ෂුව හෝ භික්ෂුණිය මොකද කරන්නෙ, අර මළකඳ මුල්කරගෙන විදර්ශනා කරලා ඡන්දරාගය තමයි දුරු කරලා දාන්නෙ. ඡන්දරාගය දුරු කරලා දානවා. ඡන්දරාග විරත්තෝසෝ භික්ඛො පඤ්ඤානවා ඉධ අජ්ජගා අමතං සන්තිං නිබ්බාණ පද මච්ඡුතං - දුරු කොට ඡන්දරාගය නුවණැති සමණා පැමිණේ නිවන් සැපයට අමසුව ලැබෙනා. ඒ ඡන්දරාගය දුරු කළ කල්හි ඔහු පැමිණෙනවා කියනවා අමා නිවන් සුවයට. ඒ නිවන් සුවය කියලා කියන්නෙ මේ ජීවිතේ ලබන අමෘත සැපය. අමරණීය සැපය, නොනැසෙනා සැපය. කිසිවෙකුටත් නැසිය නොහැකි සැපය නිවන් සැපයයි. මේ ලෝකෙ අනිත් සැප කාලානුරූපව නැසී යන්නේය. මේ ලෝකයේ අනිත් සැප අනිත්‍යය භාවයට පත්වෙන්නේය. මේ ලෝකයේ අනිත් ලාමක සැපයෝ තවත් කෙනෙකුට පැහැර ගත හැක්කේය. එහෙත් උත්තරීතර වූ අමෘත වූ නිර්වාණ සැපයක් ඇත්ද, එය කිසිවෙකුටවත් පැහැර ගත නොහැකි කිසි කලෙකත් අහිමි වී නොයන ස්ථිරසාර වූ සැපය නිවනේ සැපයයි. ඒ නිවන් සැපය කෙනෙකුට අත්දකින්න පුලුවන් වෙන්නේ, ආර්ය අෂ්ටාංගික මාර්ගයෙන්, සීල සමාධි ප්‍රඥා දියුණු කොට දියුණු කරන ලද ප්‍රඥාවෙන්මයි. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කලා දිපාදකො යං අශුචි දුග්ගන්ධො පරිහීරති නානාකුණප පරිපූරෝ ඉස්සවන්තො තතො තතො - දුගඳින් පිරි අශුචි පිරි මේ කය නිතර වැගිරෙයි තැනින් තැන අශුචිම වී නොතොර දෙපා ඇති මේ කය කරති ලොව පරිහරණය, මේ ශරීරය ගැන භාග්‍යවතුන් වහන්සේ වදාරනවා, මේ දෙපා ඇති මේ ශරීරයේ හැමතිස්සේම තියෙන්නෙ ඒ ඒ තැනින් අශුචි වැගිරී වැගිරී. පින්වතුනි හිතන්න නුවණින් කල්පනා කරලා අපි සාමාන්‍යයෙන් දවසක් ඇතුලේ කටයුතු

කරනකොට ඒ කටයුතු අතරේ මේ ශරීරයෙන් අපි අවදියෙන් ඉන්න පැය කීපය ඇතුලේ කොච්චර වතාවක් අශුචි වැගිරෙනවාද. දහදිය වැගිරෙනවා, මලමූත්‍රා පිටවෙනවා, අශුචි වැගිරෙන කයක් මෙසේ පරිහරණය කරන්නෙ. හැබැයි මේ පරිහරණය කරන කය ගැන බොහෝ දෙනෙක් මුලාවෙන් මුලාවට පත්වෙනවා. මුලාව තුලම වාසය කරනවා. හැබැයි නුවණ තියෙන භික්ෂු භික්ෂුණීන් එහෙම නැත්නම් ශ්‍රාවක ශ්‍රාවිකාවො මේ පරිහරණය කරන කය මුල් කරගෙනම තමන්ගේ නිවන් දොරටු හදාගන්නවා. ඒක තමයි බුද්ධ ශාසනයක අසිරිය. කය මුල් කරගෙනම ලෝක සත්වයා මුලාවෙන් මුලාවට වැටෙනවා, සසරෙන් සසරට වැටෙනවා. ඒ කයම කමටහනක් කරගන්න නුවණැති භික්ෂුව, භික්ෂුණිය, ශ්‍රාවකයා, ශ්‍රාවිකාව සසරින් නිදහස් වීමේ මාවත පාදා ගන්නවා. ඒතාදිසේන කායේන යො මඤ්ඤෙ උන්නමේතවෙ පරංවා පරජානෙය්‍ය කිමංඤත්‍ර අදස්සනා - මෙලෙසින් යුතු කයක් දරමින් සිතට ගෙන උස්කොට තමා දක්වන ඉහළින් සිතන, අන් හැම පහත් කොට පහළට ඇද දමන මොහු වෙන කවරෙක්ද, ලෝ තතු නොම දකින. යම් කෙනෙක් ඔය වගේ කයක්, දැන් මේ පොදුවේ කයක හැටිනෙ බුදුරජාණන් වහන්සේ වදාළේ. යම් කෙනෙක් ඔය ජාතියේ කයක් දරාගෙන ඒ ශරීර කූඩුව තියාගෙන තමන්ව උස්කොට හිතනවා කියනවා, මගේ හමේ පාට තමයි ලස්සන, මේ අනිත් ඇයො එහෙම ලස්සන නැත. මගේ ඇස් දෙක තමයි ගොඩාක් ලස්සන, මේ අන් ඇයන්ගේ ඇස් ලස්සන නැත. මගේ අඟපසඟ තමයි ගොඩාක්ම හැඩ. කෝ මේ අන් ඇයන්ගේ ඇඟපසඟේ හැඩ එහෙම නෑ නොවැ. එහෙම හිතන් නැද්ද. ස්ත්‍රී පුරුෂ භේදයක් නැතිව එහෙම හිතනවා. පුරුෂයොත් හිතනවා මට නොවැ ශක්ති සම්පන්න ශරීරය තියෙන්නෙ. මේ අනිත් ඇයන්ට එහෙම නෑ නොවැ. මට නොවැ හොඳට මස්පිඩු තියෙන්නෙ, අනිත් ඇයන්ට එහෙම නෑ නොවැ. එහෙම හිතනවා. දිග කොණ්ඩෙ මුල් කරගෙන හිතනවා මගේ කොණ්ඩෙ තමයි ගොඩක්ම දිග. මගේ කොණ්ඩෙ තමයි ගොඩාක් ලස්සන. අනිත් ඇයන්ට එහෙම නෑ නොවැ. මගේ ඇහිබැම හරි ලස්සනයි, අනිත් ඇයන්ගේ ඇහිබැම එහෙම ලස්සන නෑ නොවැ. මෙහෙම හිතනවා. මෙහෙම හිත හිතා තමාව උස් කරගන්නවා නම් මේ රූපයක් මුල් කරගෙන, අනිත් අයව හෙලා පෙලා හිතනවා නම් කිමං ඤත්‍ර බාල්භයං - මෝඩ කම විනා ඒකට වෙන මොකක් කියන්නද. එතකොට සුන්දරී නන්දා තෙරණියට භාග්‍යවතුන් වහන්සේ මේ සත්‍යය වදාළේ. මේ සත්‍යය වදාරනකොට සුන්දරී නන්දා තෙරණියට තේරුනා එහෙනම් තමන් මෝඩකමේ ඉඳලා තියෙන්නෙ කියලා. ඇයි මේ රූපය මුල් කරගෙන තමයි බුදු බණ අහන්න

එන එකත් නවත්වාගෙන හිටියේ. මේ සත්‍යය වූ නිර්මල වූ ධර්මයත් එපා කියලා හිතුවා රූපයක් නිසා. ඉතින් ඇයට තේරුනා මෝඩකම. බුදුරජාණන් වහන්සේ මේ විජය සූත්‍රය දේශනා කලාට පස්සෙ ගොඩාක් පැහැදුනා. භාග්‍යවතුන් වහන්සේ සමීපයටම ඇවිල්ලා බුදුරජාණන් වහන්සේගේ සමීපයේ වන්දනා කලා. දැන් භාග්‍යවතුන් වහන්සේ දන්නවා මෑ නුවණ උපද්දවගත්තු කෙනෙක්. බුදුරජාණන් වහන්සේ ඒ නිසා සුන්දරී නන්දාට වදාළා ආතුරං අසුචිං පූතිං පස්ස නන්දේ සමුස්සයං - පින්වත් නන්දා රෝග හටගන්න, අපිරිසිදු, කුණු ගඳ ගහන මේ ශරීරය දිහා නුවණින් බලන්න. අසුභාය චිත්තං භාවේහි ඒකග්ගං සුසමාහිතං - හිත හොඳට එකඟ කරගෙන අසුභ භාවනාව වඩන්න. යථා ඉදං තථා ඒතං යථා ඒතං තථා ඉදං - මේ ශරීරයත් මළකුණක් වගේ තමයි. මළකුණත් මේ ශරීරය වගේ තමයි. මළකුණේ තියෙන දේවල්මයි මේ ශරීරයේත් තියෙන්නෙ. දුග්ගන්ධං පූතිකං වාති බාලානං අභිනන්දනං - දුගඳයි, කුණු වැගිරෙනවා, ඒ වුනාට මෝඩ ජනතාව සතුටින් වැළඳගන්නේත් මේ ශරීරයමයි. ඒ නිසා නන්දාවෙනි ඔන්න ඔය ශරීරය ගැන ඔබ මෝඩ ජනතාව බලන විදියට බලන්න එපා. ඔබ මේ ශරීරය ගැන හොඳ නුවණින් හිතන්න කිව්වා. දැන් එතකොට මේකෙන් .. ඉගෙනගන්නකොට අපිට තේරෙන එකක් මේ විදියට ජීවිතය ගැන, මේ ශරීරය ගැන කරුණු පහදා දෙනකොට මේක එක පාර්ශ්වයකට අල්ලන්න බෑ. ඒ කොයි පාර්ශ්වයටද. මෝඩ ජනතාව. මෝඩ ජනතාවට හිතෙන්න පුලුවන් මේක අහගෙන ඉන්නකොට අපෝ තරුණ ගැහැණු ළමයි, තරුණ පිරිමි ළමයි මේක අහගෙන හිටියොත් එහෙම ඒ අයගේ තරුණ ජීවිතය වැනසෙයි. ඉක්මණට ටීවී එක වහයි, හපෝ ඕවා උඹලා අහන්න එපා කියලා. ඒ හේතුව මොකෝ? මෝඩ ජනතාව. එතකොට මේක පෑහෙන්නෑ මෝඩ ජනතාවට. මෝඩ ජනතාව බලන විදියට නන්දාවෙනි ඔබ රූපය දිහා බලන්න එපා කිව්වා. ඔබ මේ රූපයේ ඇත්ත, මේ ශරීරයේ තියෙන සත්‍යය ස්වභාවය නුවණින් විමසන්න කිව්වා. දැන් මේ බණ පද වල පින්වතුනේ ලෝකයේ තියෙන පරම සත්‍යය කියලා දෙනවා මිසක් බුදුරජාණන් වහන්සේ නිකං අමුතු එකක් මවලා කියන් නෑනෙ. මේ තමයි ලෝකෙ තියෙන ඇත්ත. ඇත්ත ඇති හැටියෙන් හිතන්නේ නැතිව, ඇත්ත ඇති හිටියෙන් බලන්නේ නැතිව ජීවත් වීමෙන් තියනෙ ඵලය මොකක්ද. බොරුවක් අස්සෙ එහෙනම් අපි ජීවත් වෙන්නෙ. බොරුවක් අස්සේම නම් අපේ ජීවිතය ගතවෙන්නෙ, බොරුවක් එක්කම ඉඳලා නම් මැරිලා යන්නෙ ඒ ජීවත් වීමේ ඵලය මොකක්ද, ඊට වඩා කොච්චර වටිනවාද එක මොහොතක් ඇත්ත හිතන එක. නමුත් මේ සත්‍යය

කතා කරනකොට, මේ සත්‍යය කතාවට නුවණ නැති කෙනාගේ හිත පහදින් නෑ. සමහර වෙලාවට භික්ෂු වේසයෙන් වුනත් ඉන්න පුලුවන් නුවණ නැති අය. නුවණ නැති කෙනෙක් භික්ෂු වේසයෙන් වුනත් ඉන්න පුලුවන්. ඒ භික්ෂු වේසයෙන් ඉන්න නුවණ නැති කෙනා බුදුරජාණන් වහන්සේගේ ධර්මය කියවලා හිතනවා, මේවා තරුණයන්ට සුදුසු බණය, මේවා තරුණයන්ට නුසුදුසු බණය. මේවා තරුණ තරුණියෝ ඇසිය යුතු ඒවාය. මේවා තරුණ තරුණියෝ නොඇසිය යුතු ඒවාය. මේවා ඇසුවොත් නම් තරුණ තරුණියන්ගේ ඔළුව අවුල් වනු ඇත, මේවා ඇසුවාට නම් තරුණ තරුණියන්ගේ ඔළුව අවුල් නොවනු ඇත. මෙහෙම හිතන්නෙ බුදු බණක් මෙහෙම සංශෝධනය කර කර හිතන්නෙ මෝඩකම නිසා. බුදුබණක් එහෙම සංශෝධනය කර කර හිතන්නෙ තමා තුළ තියෙන මෝඩකම නිසා. බුදුරජාණන් වහන්සේ ලෝකයට වදාළේ සත්‍යය. ඒ සත්‍යය භාග්‍යවතුන් වහන්සේ මේ සුන්දරී නන්දාටත් කියලා දුන්නා. ඉතින් සුන්දරී නන්දා මේක හොඳට අහගත්තා. අහගෙන ඈ වීර්යය කලා. ඒ ගැන ඈ මෙහෙම කියනවා. රෑ දවල් දෙකේම මේ ශරීරය ගැන ඔය විදියට අසුභ වශයෙන් නුවණින් විමසන්න මං පටන් ගත්තා. මං තුළම ඇතිවුනු ප්‍රඥාවෙන් මේ ජීවිතේ ඇත්ත තත්වය දැකගන්න මට පුලුවන් වුනා. ඔය විදියට අප්‍රමාදී නුවණින් විමසනකොට තමා කියාගන්නා මේ කයත්, අනුන් කියාගන්න ඒ කයත් සත්‍යය වශයෙන්ම මොකක්ද කියාල මං අවබෝධ කරගත්තා. එතකොටයි මං අවබෝධයෙන්ම කළකිරුණේ. මං තුළම විරාගයට පත්වුනා. අප්‍රමාදීව හැම කෙලෙසුන්ගෙන්ම නිදහස් වුනා. උපශාන්ත බවට පත්වුනා. මං නිවී ගියා. ඒක තමයි සුන්දරීනන්දා අර්හත් උත්තමාවියගේ ගාථා. මේ අර්හත් උත්තමාවිය පසුකලෙක භික්ෂු භික්ෂුණී උපාසක උපාසිකාවන් මැද බුද්ධ ශාසනයේ අග තනතුරු ලැබුවා, ධ්‍යාන වඩන භික්ෂුණීන්ට අග්‍ර භික්ෂුණිය. මේ මහා ශ්‍රාවිකාව ගැනයි අපි අද ඇහුවේ. ඒ නිසා පින්වතුනි මේ ධර්මයන් විජය සූත්‍රය ආදී ධර්මයන් අපිට අපේ ජීවිතේ සත්‍ය ස්වභාවය ප්‍රකට කරවන දේශනා. ජීවිතේ සත්‍යය, මේ ශරීරයේ තියෙන ඇත්ත ස්වභාවය අපි මොහොතක් හරි හිතනවා නම් ඒ මොහොත පවා ජීවිතයට ආශිර්වාදයක්. මේ සත්‍යය කියන එක එකපාරට අපිට අවබෝධ වෙන් නෑ. හැබැයි සත්‍යය, සත්‍යය විදියට අපි පිළිගන්නවා නම්, සත්‍යයට හිත පහදවාගන්නවා නම්, මේ ඇත්තනේ කියලා කල්පනා කරනවා නම් ඒක මුළු සංසාර ගමනටම යහපත පිණිස හේතුවෙන එකක්. ඒ නිසා මේ සත්‍යය අවබෝධ කරපු මුණිවරුන්ගේ බණ පද අහලා සත්‍යය කෙරෙහිම හිත පහදවාගන්න. ඒ සත්‍යය අවබෝධ කරපු මේ ගෞතම

ශාසනයේ භික්ෂුණීන් අතර අග තනතුරු ලැබූ සුන්දරී නන්දා තෙරණියට නමස්කාර කරමින් අපිත් අධිෂ්ටාන කරමු අපිටත් සුවසේ ගුණ දහම් දියුණු කරගෙන, සුවසේ සීල සමාධි ප්‍රඥා දියුණු කරගෙන, සුවසේම පින් රැස් කරගෙන ඒ රහතන් වහන්සේලා රහත් තෙරණින් වහන්සේලා සැනසුනු නිවනේ අපිටත් සැනසෙන්න ලැබේවා. සාදු සාදු සාදු!!!

රැස් කල සියලු පුණ්‍ය ධර්මයන් අනුමෝදන් කරමු අපි සියලු දෙවිවරුන්ට, සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරුන්, සෙන්පති දෙවිවරුන් මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ඔබ අප හැමදෙනාගේම හිතකාමී ඉෂ්ටකාමී දෙවියෝත් පින් අනුමෝදන් වෙත්වා. පින්වත් සුමන සමන් දෙවිරජුන් ප්‍රධාන මේ ලංකා භූමිය සුරකින් හැමදෙවියෝම පින් අනුමෝදන් වෙත්වා. දෙවියෝ පින් අනුමොදෙන් වෙලා දිව්‍ය අසිරියෙන් වැඩෙත්වා, දෙවියන්ගේ ආශිර්වාදය අප හැමදෙනාට දෙවියෝ සලසාදෙත්වා. දෙවියෝද සංසාර ගමනින් අතමිදේවා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අපි අනුමෝදන් කරමු අපගේ ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ සියලූම පින් අනුමෝදන් වෙත්වා. ගුරු දේවයන් වහන්සේට මේ සියලු පින් අනුමෝදන් වෙලා නිදුක් නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සැලසේවා. ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබේවා. සාදු සාදු සාදු!!! අද ධර්ම දානය සිද්ධ කරන ඒ පින්වතුන්ලාගේ ප්‍රධාන අරමුණ ලෙස සඳහන් කොට ඇති පරිදි පිළියන්දල, මකුළුදූව, රත්න මාවතේ පදිංචිව සිට අවුරුදු අනූපහක් ආයු වළඳා 2020 ජූනි මාසෙ 22 වෙනි දින මීට වර්ෂයකට පෙර මියපරලොව යන්න යෙදුනා වූ පින්වත් ගමගේ දෝන ලියනෝරා මැණියන්ට මේ සියලූම පින් අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. අනුමෝදන් වෙත්වා. ධර්ම දානය සිද්ධ කරන පින්වතුන් ලා හැමදෙනාගේම නමින් මියයන්නට යෙදුනා වූ සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන් වී ඥාතීන්ගේ ජීවිතය සැපයටම පත්වෙත්වා. ඥාතීන් දුක් සහිත සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදනා කරන්න. දායකත්වය දැරූ ජයනන්දන විතාරන පුතණුවන්ට, මධූ ප්‍රියංවදා ලේලියට, තිළිණි විතාරන මිණිපිරියට සහ අනුද විතාරන මුණුපුරාට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ඒ පවුලේ සැම සියලු දෙනා හට මේ සියලු පුණ්‍ය ධර්මයේ ආශිර්වාදය, රත්නත්‍රයේ ආශිර්වාදය, සියලු දෙවියන්ගේ ආශිර්වාදය නිරන්තරයෙන් නොඅඩුවම සැලසේවා. තමන්ගේ රැකී රක්ෂා ආදී

කටයුතුත්, දූදරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදියත්, සුවසේ සාර්ථකව සිදු කරගන්න අවකාශ ලැබේවා. ජීවිතයට සුවසේ පින් පුරාගන්නටත්, සුවසේ දහම් මග දියුණු කරගන්නටත්, කල්‍යාණමිත්‍ර ඇසුරේ සුවසේ ගුණ දහම් දියුණු කරගන්නටත් සියලු දෙනාට අවකාශ ලැබෙත්වා. ධර්මදානය සිදු කල පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා කාර්යමණ්ඩලයේ සෑම සියලු දෙනාටත් සුපින්වත් ඔබ හැමදෙනාටත් සුවසේ ගුණ පුරාගෙන ගෞතම බුද්ධ ශාසනයේ ධර්මාවබෝධ කරන්න වාසනාව ලැබේවා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=CAnomY-d_f4

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අපි මේ ශ්‍රවණය කරන්නෙ ලොව්තුරා භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ විසින් අපේ ජීවිත වලට සැනසිල්ල සුවය ශාන්තිය උදාකරමින් දේශනා කරන ලද උතුම් ශ්‍රී සද්ධර්මය. බුදුරජාණන් වහන්සේගේ ධර්මය ගැන භාග්‍යවතුන් වහන්සේම වදාළා පඤ්ඤාවන්තස්සායං ධම්මො නායං ධම්මො දුප්පඤ්ඤස්සාති - මේ ධර්මය ප්‍රඥාවන්තයන්ට නුවණැත්තන්ට තියෙන එකක්. මේක දුෂ්ප්‍රාඥයන්ට අඥාණයන්ට තියෙන එකක් නොවේ. නුවණැත්තන් උදෙසායි ධර්මය. නුවණ තියෙන කෙනාට තමයි ධර්මය අල්ලන්න අවකාශය ලැබෙන්නෙ. ඒක හරියට මේ වගේ. ඇස් තියෙන අයට ඇස් පිහිටි අයට රූප බලන්න පුලුවන් ඇස් තිබෙන

නිසා. කන් පිහිටි අයට කන් ඇසෙන අයට හඬ අහන්න පුලුවන්, කන් තිබෙනා නිසා. දිවක් තිබෙනා අයට රස බලන්න පුලුවන් දිව තිබෙන නිසා. අන්න ඒ වගේමයි නුවණ තියෙන අයට නුවණින් ධර්මය ගන්න පුලුවන් නුවණ තිබෙනා නිසා. මේ නුවණ ගැන ඒ විදියටයි අපි තේරුම් ගත යුත්තේ. ඉතින් නුවණැත්තන් නුවණින් දැකිය යුතු සද්ධර්මය අපි මේ විදියට ශ්‍රවණය කරන්නෙ විශේෂයෙන් ඒ අමා නිවන් දුටු රහත් තෙරණිවරු මේ වැඩසටහන් මාලාවේදී නුවණින් සද්ධර්මය අල්ලාගත්ත ඒ නුවණ නිසා ධර්මය අවබෝධ කරපු උත්තමාවියො ගැන අපි ශ්‍රවණය කරනවා. අද ධර්ම දේශනාවට දායකත්වයන් එකතු කරන්නෙ, මීට වසරකට පෙර මියපරලොව යන්න යෙදුනු පින්වත් රූබී වික්‍රමසිංහ මැණියන්ට පින්පෙත් අනුමෝදනා කරන අදහසින් නො.1335/3, බෝගහවත්ත පාර, පන්නිපිටිය යන ලිපිනයේ පදිංචි පින්වත් මුදිතා වික්‍රමසිංහ මෙනෙවිය විසින්. පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය ගැන මේ ධර්මය අවබෝධ කල ස්වයංභූ ඥාණයෙන් ධර්මය දුටු අපගේ මහා කාරුණික ශාස්තෘන් වහන්සේ මේ විදියට වදාළා. අධිගතො කො න්‍යායං ධම්මො - මා විසින් අවබෝධ කරන ලද මේ සද්ධර්මය අතිශයින්ම, ගම්බීරො - ගම්භීර වූවකි. දුග්ගසො - දැකීමට දුෂ්කර වූවකි. දුරනුබෝධො - අවබෝධයට දුෂ්කර වූවකි. අතක්කාවචරො - තර්ක කර කර වාද ගොඩ නග නගා අල්ලන්න පුලුවන් එකක් නොවෙයි. නිපුණො - මේ ධර්මය ඉතාම සියුම්ය. පණ්ඩිතිවේදනීයො - නුවණැත්තන්ට නුවණින් දැකිය යුත්තකි. එහෙමයි බුදුරජාණන් වහන්සේ මේ ධර්මය ගැන වදාළේ. නුවණැත්තෙක් නුවණ උපදවාගෙන ඒ නුවණින් තමයි ධර්මය දකින්න තියෙන්නෙ, තර්ක කර කර වාද ගොඩ නග නගා තමන්ට තේරෙන විදියට මතවාද හද හද එහෙම ධර්මය අල්ලන්න බෑ. තර්කය වාදය කියලා කියන්නෙ පින්වතුනි නුවණැත්තන්ගේ විෂයක් නොවෙයි. නුවණ මද නිසා තමයි තර්ක කරන්නෙ. නුවණ මද නිසා තමයි වාද කරන්නෙ. නුවණ තියෙන කෙනා කරන්නෙ නුවණැත්තා කරන්නෙ වාද තුල තර්ක වල අතපත ගගා ඉන්න එකක් නෙවෙයි. නුවණින් විමසා බලනවා. නුවණැත්තාගේ විෂය, නුවණැත්තා කරන දේ නුවණින් විමසා බැලීමයි. ඉතින් ඒ ගැන බුදුරජාණන් වහන්සේ හරීම ලස්සන කාරණාවක් වදාළානෙ. භාග්‍යවතුන් වහන්සේ ඒක දේශනා කලේ මාලුංක්‍යපුත්ත කියලා එක තෙරුන් වහන්සේ නමකට. මේ ශාසනේ මහණ වුනා මාලුංක්‍යපුත්ත කියලා එක භික්ෂුවක්. ඔය භික්ෂූන් වහන්සේ දවසක් දානෙ වළඳලා හවස රුක් සෙවණක ඉන්නකොට ඒ භික්ෂුවට කල්පනාවක් ආවා මෙන්න මෙහෙම. මේ ශ්‍රමණ බ්‍රාහ්මණවරුන් විසින්

ගොඩනගාපු වාද තියෙනවා. ඒවට හරි හරියට පටලැවිලි තියෙනවා. මහා වේදිකා වල වාද කරගන්නවා කාරණා දහයක් මුල් කරගෙන. ඒ කාරණා දහයට හරිහමන් පිළිතුරක් කිසි කෙනෙකුට පැහැදිලිව කියාගන්න පුලුවන්කමක් නෑ. ඒ වාද ගැන බුදුරජාණන් වහන්සේ විසිනුත් ස්ථිර ප්‍රකාශයක් කරලා නෑ. ඒ වාද මොනවාද? ඇතැම්හු වාද කරගෙන තියෙනවා මෙන්න මෙහෙම. පිරිසක් කියලා තියෙනවා ලෝකය සදාකාලිකයි කියලා. ඒක වාදයේ කොටහක් තියෙනවා මේ ලෝකෙ සදාකාලික එකක්. එතකොට ඒකට විරුද්ධව තව කොටසක් ඉන්නවා, නෑ මේ ලෝකය සදාකාලික නැති එකක්. තව වාදයක් ගොඩනගලා තිබිලා තියෙනවා, මේ ලෝකයට කෙළවරක් තියෙනවා. තව පිරිසක් කිව්වා මේ ලෝකයට කෙළවරක් නැත්තේය. තවත් වාදයක්, ජීවයත් එකයි, ශරීරයත් එකයි. ඒකෙ ප්‍රතිවිරුද්ධ වාදය ජීවය වෙන එකක්, ශරීරය වෙන එකක්. ඊළඟට ඇතැම්හු වාදයක් ගොඩ නගලා තියෙනවා තථාගතයන් වහන්සේ මරණින් මත්තෙ ඉන්නවා, ඒකට ප්‍රතිවිරුද්ධව ඔන්න මතයක් හැදුවා වාදයක්, තර්කයක්, නෑ තථාගතයන් වහන්සේ මරණින් මත්තෙ නෑ. තව කොටසක් කිව්වා තථාගතයන් වහන්සේ මරණින් මත්තෙ ඉන්නෙත් නෑ, නැත්තෙත් නෑ. ඔන්න ඔහොම වාද, වාද දහයක් ගොඩ නගලා තිබුනා. බුදුරජාණන් වහන්සේ ඔය වාද වලට ඍජු පිළිතුරක් දීලා තිබුනෙ නෑ. ඉතින් මේ මාලුංක්‍යපුත්ත කියන තෙරුන් වහන්සේ කල්පනා කලා මං අද බුදුරජාණන් වහන්සේ ළඟට යනවා, ගිහිල්ලා භාග්‍යවතුන් වහන්සේගෙන් කෙළින්ම මේක අහනවා. බුදුරජාණන් වහන්සේගෙන් පිළිතුරක් අරගෙන මිසක් මං අද එන්නෑ කියලා මේ භික්ෂුව බුදුරජාණන් වහන්සේ ළඟට වැඩම කලා. ගිහිල්ලා භාග්‍යවතුන් වහන්සේට කියනවා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස තථාගතයන් වහන්සේ විසින් පිළිතුරු නොදෙන ලද ප්‍රතික්ෂේප කරන ලද ප්‍රශ්න දහයක් තිබේ. ඒ ප්‍රශ්න දහය නම් ස්වාමීනී ලෝකය සදාකාලික ද නැද්ද කියන කාරණයට බුදුරදුන් ඍජු පිළිතුරක් දී නැත. ලෝකයට කෙළවරක් තිබෙන්නේද නැද්ද කියන කාරණයට ඒ වාදයට බුදුරජාණන් වහන්සේ පිළිතුරු නොදෙන්නේය. මේ විදියට වාද දහය කිව්වා. කියලා මාලුංක්‍යපුත්ත තෙරුන් කියනවා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, ලෝකය සදාකාලික නම් සදාකාලිකයි කියලා කියන්න. ලෝකය සදාකාලික නැත්නම් සදාකාලික නෑ කියලා කියන්න. ස්වාමීනී අද මේකෙන් පිළිතුරක් අරගෙන මිසක් මං සෑහීමකට පත්වෙන්නෑ. බුදුරජාණන් වහන්සේ මට පිළිතුරක් දුන්නෙ නැත්නම් මං සිවුරු අරිනවා කිව්වා. එතකොට භාග්‍යවතුන් වහන්සේ අහනවා, ඈ මාලුංක්‍යපුත්ත මම

ඔහේට මෙහෙම කිව්වාද, මාලුංක්‍යපුත්ත ඔහේ මගේ ළඟට ඇවිල්ලා මහණ වෙන්න, මං ඔහේට ලෝකය සදාකාලිකද නැද්ද කියලා කියනවා. මං එහෙම ඔහේට පොරොන්දු වුනාද. එතකොට මාලුංක්‍යපුත්ත තෙරුන් කියනවා ස්වාමීනී, එහෙමනම් බුදුරජාණන් වහන්සේ මට පොරොන්දුවක් වුනේ නෑ. එහෙම නැත්නම් මාලුංක්‍යපුත්ත ඔහේ මහණ වෙන්න එන්න කලින් මට කිව්වාද ස්වාමීනී මං මහණ වෙන්නේ ඔබවහන්සේගෙන් ලෝකය සදාකාලිකද නැද්ද කියලා දැනගන්නයි. මට ඒකට උත්තරයක් ඕනෙ කියලා ඔහේ මහණ වෙන්න එන්න පෙර එහෙම මට කිව්වාද. අනේ ස්වාමීනී මං එහෙම කිව්වෙත් නෑ. බුදුරජාණන් වහන්සේ වදාළා එතකොට මාලුංක්‍යපුත්ත ඔහේ මේ මොකක්ද මේ පටලවාගෙන තියෙන්නෙ. දැන් ඔහේ මේවාට පිළිතුරු දුන්නෙ නැත්නම් සිවුරු අරිනවාලු. මාලුංක්‍යපුත්ත ලෝකය සදාකාලිකයි කියන කාරණයට බුදුරජුන් පිළිතුරු දී නැත. එය දෙන්නේද නැත. බුදුරජාණන් වහන්සේ ලෝකය සදාකාලික ද නැද්ද කියන කාරණයටත් පිළිතුරක් දෙන්නේ නැත, එය ප්‍රතික්ෂේප කරනවා. ලෝකයට කෙළවරක් තියෙනවා කියන කාරණයටත් බුදුරජාණන් වහන්සේ පිළිතුරක් දෙන්නෑ ප්‍රතික්ෂේප කරනවා. ලෝකය කෙළවරක් නැද්ද කියන කාරණයටත් බුදුරජාණන් වහන්සේ පිළිතුරු දෙන්නෑ, ප්‍රතික්ෂේප කරනවා. මේ විදියට ඔය ප්‍රශ්න දහය භාග්‍යවතුන් වහන්සේ විසින් පිළිතුරු නොදී ප්‍රතික්ෂේප කරන ලද්දේය. ඒවා ප්‍රතික්ෂේප කලා කියලා දරාගන්න කිව්වා. එතකොට මාලුංක්‍යපුත්ත තෙරුන් වහන්සේට භාග්‍යවතුන් වහන්සේ තෝරලා දෙනවා ඇයි ප්‍රතික්ෂේප කරන්න හේතුව. මාලුංක්‍යපුත්ත, ඔය ප්‍රශ්න පස්සේ පටලැවුනා කියලා ඒවාට පිළිතුරු හොයන්න වෙහෙසුනා කියලා ඒවා සම්බන්ධයෙන් මතවාද ගොඩනැගුවා කියලා නේවනිබ්බිදාය - එය අවබෝධයෙන් කළකිරීම පිණිස හේතුනොවන්නේය. නවිරාගාය - මේ සංසාර දුකේ නොඇල්ම පිණිස හේතු නොවන්නේය. නනිබ්බාණාය සංවත්තති - නිවනින් සැනසීම පිණිස ඔය කාරණය හේතු නොවන්නේය. එතකොට ජීවිතයේ හැබෑම ශාන්තියක් කරා යන්න උපකාර කරන්නේ නෑ මේ මතවාද වල පටලැවුනා කියන කාරණය. ඒ නිසා බුදුරජාණන් වහන්සේ ඕවාට පිළිතුරු දුන්නෙ නෑ කියලාම දරාගන්න කිව්වා. දැන් බලන්න පින්වතුනේ මේ ලෝකය ගත්තොත් මහා පරීක්ෂණ කියලා හිතන්නෙ ඔන්න ඕවා. එක එක මත වල හිරවෙලා. එක එක වාද වල පටලැවිලා. එක්කෙනෙක් එක මතයක් ගොඩනගන කොට ඒකට ප්‍රතිවිරුද්ධවත් තව මතයක් ගොඩනගනවා. ඒ මතධාරියො ගච්ඨන හදාගන්නවා. ඒ ගච්ඨන වලට පිල්

බෙදෙනවා. පිල් බෙදිලා වාද විවාද කරගන්නවා. තමන්ගේ මේ දුර්ලභව ලැබිච්ච මනුස්ස ජීවිතය වාද කර කර, වාද කර කරම ගෙවී යනවා. එහෙම නැද්ද සාමාන්‍ය ජීවිත. බහුතරයක් ජීවිතයක් තියෙන්නෙ ඔන්න ඔතන. එතකොට භාග්‍යවතුන් වහන්සේ දේශනා කලා මාලුංක්‍යපුත්ත, තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ සම්බුදු සිරිමුවමඩලින් අනර්ථවත් දෙයක් දේශනා කරන්නෙ නැත. ඒකට හේතුව බුදුරජාණන් වහන්සේට මේ සත්වයන් කෙරෙහි කරුණාව තිබේ. සත්වයන් කෙරෙහි අනුකම්පාව තිබේ. මේ සත්වයන්ට සැබෑම පිළිසරණක් සාදා දීම පිණිස බුදුරජුන්ගේ හදවතේ කරුණාව තිබේ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ වැඩකට නැති දේවල් දේශනා කලේ නෑ. ඇයි ඔබට මතක ඇති සිංසපා වනයේදී අපි සරණ ගියපු අපේ ශාස්තෘන් වහන්සේ - සිංසපා වනය කියලා කිව්වෙ ඇට්ටේරියා වනය - ඇට්ටේරියා වනයට භික්ෂු සංඝයාත් එක්ක වැඩම කරලා බුදුරජාණන් වහන්සේ මේ ඇට්ටේරියා වනාන්තරයේ බිම වැටිලා තිබුනු කොළ මිටක් අතට අරගත්තා. අතට අරගෙන භාග්‍යවතුන් වහන්සේ භික්ෂූන්ගෙන් අහනවා, මහණෙනි, මේ ඔබට කුමක්ද සිතෙන්නේ. මේ තථාගතයන් වහන්සේගේ ශ්‍රී හස්තයේ තිබෙන ඇට්ටේරියා කොළ ප්‍රමාණය ද වඩාත් වැඩි, එසේත් නැත්නම් මහණෙනි මේ ඇට්ටේරියා වනාන්තරයේම තිබෙන කොළ ප්‍රමාණයද? ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, තථාගතයන් වහන්සේගේ මේ ශ්‍රී හස්තය මත තියෙන්නෙ ඉතාම සුළු ඇට්ටේරියා කොළ ප්‍රමාණයක්. මේ වනයේ තියෙන ඇට්ටේරියා කොළත් එක්ක සන්සන්දනය කරලා බලද්දි එය සීයලක්ෂයේ කලාවෙන් වත් පෙන්වන්න පුලුවන් එකක් නෙවෙයි. බුදුරජාණන් වහන්සේ වදාළා මහණෙනි, තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අවබෝධය, බුදුරජාණන් වහන්සේ දුටු දේ, බුදුරජාණන් වහන්සේ පසක් කරපු දේ බුදුරජාණන් වහන්සේ දැකපු දේ මේ ඇට්ටේරියා වනාන්තරයේම තියෙන කොළ ප්‍රමාණය නම් බුදුරජාණන් වහන්සේ විසින් ඔබට දේශනා කරන්නේ මේ මිටට ගත්ත ඇට්ටේරියා කොළ ප්‍රමාණය වගේ චුට්ටක්. ඇයි මහණෙනි, තථාගතයන් වහන්සේ ඒ සා සුවිසාල අවබෝධයක් තියෙද්දිත් සුළු ප්‍රමාණයක් දේශනා කරන්නෙ? මහණෙනි දේශනා කරන ටික තමයි ඔබට අවබෝධයෙන් කළකිරීම පිණිස හේතුවෙන්නෙ. නොඇල්ම පිණිස හේතුවෙන්නෙ. කෙලෙස් සන්සිඳීම පිණිස හේතුවෙන්නෙ. සසර දුක් නිරුද්ධ කිරීම පිණිස හේතුවෙන්නෙ. නිවන පිණිස හේතුවෙන්නෙ ඒ ටිකයි. ඒ ටික තමයි මහා කාරුණික බුදුරජාණන් වහන්සේ අපට දේශනා කලේ ඒ කුමක්ද, චතුරාර්ය සත්‍යය. බුදුරජාණන්

වහන්සේ අර මාලුංක්‍යපුත්ත කියන භික්ෂුවට දේශනා කලා මාලුංක්‍යපුත්ත, මතවාද වල පටලැවෙනවා කියන එක තර්ක වල පටලැවෙනවා කියන එක, වාද විවාදයන්ගේ පටලැවෙනවා කියන එක මෙන්න මේ වගේ. එක මනුස්සයෙකුට කවුරුහරි විස පොවාපු ඊතලයකින් විද්දා. දැන් විස පොවාපු ඊතලයකින් පහර කෑවට පස්සෙ ශරීරය විනිවිද මේ ඊතලය බැහැලා. ඔහුගේ ඥාතීන් හිත මිත්‍රයො ඔහුව ඉක්මණට උස්සාගෙන අරන් ගියා දක්ෂ වෙදෙක් ළඟට. වෙදා ළඟට අරගෙන ගියාට පස්සෙ මේ වෙදමහත්තයා දැන් ලැහැස්තිය මේ ඊතලය පරිස්සමට ගලවලා තුවාලයට බෙහෙත් කරන්න විස නැසෙන විදියට. වෙද මහත්තයා ඊතලය අල්ලන්න ලැහැස්ති වුනා විතරයි මෙන්න මේ ඊතල පහර කාලා ඉන්න මනුස්සයා කියනවා හා හා වෙදමහත්තයා ඕක අල්ලන්න එපා. ඕක අල්ලන්න පෙර ඕක ගලවන්න පෙර මං අහන ප්‍රශ්න ටිකට ඔබතුමා උත්තර දෙන්න ඕන. මොනවාද මගේ ප්‍රශ්න? මේ මට ඊතලෙන් විදපු එකා උස එකෙක්ද, කොට එකෙක්ද? මට ඊතල පහර විදපු කෙනා කළු ද, සුදු ද? මට ඊතල පහර විදපු කෙනා මේ ඊතලය හදවාගත්ත කම්මල මොකක්ද? මේ ඊතලය කරවලා තියෙන ලෝහය මොකක්ද? මේ ඊතලය පිටිපස්සට ගහලා තියෙන්නෙ මොන කුරුල්ලාගේ පිහාටු ද? මේ ඊතලයට පොවාපු විස මොන සතෙකුගෙන් ගත්තු විස ද? මෙන්න මේවා ටික කිව්වොත්, මේ ටික කියලා අවසන් වෙනකල් ඔබට මං ඊතලය නම් ගලවන්න දෙන්නැත. ඔය ටික කියනකල් ඊතලය තිබ්බ දෙන්. එහෙම කියනවා ඊතල පහර කාපු කෙනා. එතකොට භාග්‍යවතුන් වහන්සේ ඇහුවා, මාලුංක්‍යපුත්ත මිනිහා මෝඩයෙක්ද, නුවණැත්තෙක්ද? ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, තමන් ඊතල පහරක් කාලා ඉද්දි තමන්ගේ ඇඟේ විස දුවද්දී මනුස්සයෙක් මේ රටේ නැති දේවල් හිතනවා නම්, මනුස්සයෙක් හිතනවා නම් මේ ඊතල පහර මොකා විද්දාද කියලා, මේ ඊතල පහර මට විදපු කෙනා කළු ද සුදුද කියලා හිතනවා නම්, මා හට මේ ඊතල පහර විදපු කෙනා ඒ ඊතලය හදාගත්තු කම්මල මොකක්ද කියලා හිතනවා නම්, මට මේ ඊතලයෙන් විදපු පුද්ගලයා මේ ඊතලයට හයි කරපු පිහාටු මොන කුරුල්ලාගේද කියලා හිතනවා නම් ඔහුට දැන් තියෙන ප්‍රශ්නයට අදාල එකක් නෙවෙයි ඔහු හිතන්නෙ. ඇත්තටම දැන් ඔහුට තියෙන ප්‍රශ්නය මොකක්ද, මැරෙන්න කලින් සුවපත් වෙන එක. මිනිහා ඒක අමතක කලා කියන්නෙ ඒ මනුස්සයා මහම මහා මෝඩයෙක් කිව්වා. බුදුරජාණන් වහන්සේ වදාළා, ඉතින් මාලුංක්‍යපුත්ත, ඔහෙත් ඒ වගේනෙ. ගතවෙන මොහොතක් මොහොතක් පාසා නාකි වෙනවා. නොයෙක් ලෙඩදුක් උරුම කරගන්න තැනට යනවා.

මරණය කොයි ඇසිල්ලේද දන්නෙ නෑ. එහෙම අවිනිශ්චිත ජීවිතයක් තියාගෙන මේ මොන ප්‍රශ්න වලද ඔහේ පටලැවෙන්නෙ කියලා ඇහුවා. අද කාලෙ මිනිස්සු නානා මතවාද වල පටලැවෙනවානෙ. මේ මතවාද වල පටලැවෙන අයට හොඳ පිළිතුරක්. බුදුරජාණන් වහන්සේ වදාළා මාලුංක්‍යපුත්ත, ඔහේ ඔය විමසන ප්‍රශ්න වලට තථාගතයන් වහන්සේ පිළිතුරු දෙන්නේ නැත. අනාගතයේද එසේ පිළිතුරු දෙන්නේ නැත. බුදුරජාණන් වහන්සේ පිළිතුරක් නොදුන් දේවල් විදියට ඕවා දරාගන්න. හැබැයි මාලුංක්‍යපුත්ත, බුදුරජාණන් වහන්සේ විසින් දේශනා කරන ලද දේ විදියට මේන්න මේවා දරාගත යුතුයි. එනම් භාග්‍යවතුන් වහන්සේ විසින් දුක කියන්නෙ ආර්ය සත්‍යයක් කියලා දේශනා කලා. ඒක ඒ විදියටම දරාගත යුතුයි. භාග්‍යවතුන් වහන්සේ විසින් දුකේ හටගැනීම ආර්ය සත්‍යයක් කියලා දේශනා කලා, එසේම දරාගත යුත්තේය. භාග්‍යවතුන් වහන්සේ විසින් දුක්ඛ නිරෝධය නම් වූ නිවන ආර්ය සත්‍යයක් කියලා දේශනා කලා. එය එසේම දරාගත යුත්තේය. භාග්‍යවතුන් වහන්සේ විසින් දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ආර්ය අෂ්ටාංගික මාර්ගය දුක් නිවන මග විදියට දේශනා කලා, එය ආර්ය සත්‍යයක් කියලා, ඒක ඒ විදියටම දරාගත යුත්තේය. ඇයි මාලුංක්‍යපුත්ත, තථාගතයන් වහන්සේ මේ චතුරාර්ය සත්‍යය ධර්මය දේශනා කලේ. ඒක තමයි සංසාර ගමනක පටලැව්ච්ච සත්වයාට මේ සසර දුකින් නිදහස් වීම පිණිස උපකාරී වන නිබ්බිදාව ඇතිකරගන්න උදව් වෙන්නෙ. නිබ්බිදාව කියලා කියන්නෙ අවබෝධයෙන් කළකිරීම. ඊට උදව් වෙන්නේ චතුරාර්ය සත්‍යයයි. සංසාරයේ නොඇල්ම පිණිස හේතුවෙන්නෙ චතුරාර්ය සත්‍යයයි. කෙලෙස් සංසිඳීම පිණිස හේතුවෙන්නෙ චතුරාර්ය සත්‍යයයි. මේ සංසාරයේ දුක් නිරුද්ධ කරන්න හේතුවෙන්නෙ චතුරාර්ය සත්‍යයයි. නිවන පසක් කරගන්න උපකාරී වෙන්නෙ චතුරාර්ය සත්‍යයයි. ඔන්න ඔය ටික දේශනා කලා කියලා දරාගන්න කිව්වා. එතකොට පින්වතුනේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ ඒ මහා කාරුණික ශාස්තෲන් වහන්සේ ඔය විදියට සැනසීම උදෙසාම ධර්මය දේශනා කරනකොට තම තමන්ගේ වාද තම තමන්ගේ තර්ක අතහැරලා ඒ ධර්මයටම අවධානය යොමු කලා නම් ඒ නුවණැත්තෝම පමණි. ස්ත්‍රීන් වෙන්න පුලුවන්, පුරුෂයෝ වෙන්න පුලුවන්, නුවණැත්තො තමයි බුදුරජාණන් වහන්සේගේ ධර්මයට හරි විදියට අවධානය යොමු කරන්නෙ. ඒක ඒ කාලෙත් එහෙමයි, මෙකලත් එහෙමයි. අනාගතෙත් එහෙමයි. ඒ කාලෙ වුනත් බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරනකොටත් ඒකෙ ඒවා මේවා කෑලි අල්ලගෙන තමන්ගේ වාදත් එක්ක ඒවා පටලවාගෙන හරියට අර ඊතල පහරක් කාපු

මෝඩ මනුස්සයා වගේ කටයුතු කරපු එය එකලත් හිටියා, මෙකලත් ඉන්නවා, අනාගතෙත් ඉඳීවි. ඉතින් එහෙම කෝටි සංඛ්‍යාත මෝඩ අඥාණ ප්‍රජාවක් මැද බුදු කෙනෙකුගේ ධර්මය අහන්න ලැබුනාට පස්සෙ තමන් නුවණින් කල්පනා කරලා තමන්ගේ පරණ මතවාද ඔක්කොම අත්හැරලා ධර්මයෙන් සුවපත් වෙච්චි ජීවිතනේ රහතන් වහන්සේලා, රහත් තෙරණිවරු කියන්නෙ. දැන් අපි අද ඉගෙන ගන්නෙ නන්දුත්තරා කියන රහත් තෙරණියගේ සිදුවීම. මේ නන්දුත්තරා කියලා කියන්නෙ පින්වතුනේ දඹදිව ඒ කාලෙ කුරු රටේ කම්මස්සධම්ම කියන දේශයේ උපන්න තැනැත්තියක්. මේ කුරු රට කම්මස්සධම්ම කියලා කියන්නෙ, වර්තමානය වෙනකොට දිල්ලි පැත්තට වෙන්න. දිල්ලිය පැත්තට වෙන්න අදටත් භාග්‍යවතුන් වහන්සේ ඔය කුරුරටේ කම්මාසධම්මයේදිනෙ මහා සතිපට්ඨාන සූත්‍ර ධර්මය වදාළේ. ඉතින් අදටත් ඒ සතිපට්ඨාන සූත්‍රය දේශනා කරපු තැන සැදැහැවතුන්ලාට වන්දනාමාන කරගන්න එතන අවකාශ තිබෙනවා. එතකොට එන්න ඒ ප්‍රදේශයට වෙන්නට තමයි මේ නන්දුත්තරා කියන තැනැත්තිය ඉපදිලා හිටියෙ. ඉතින් තරුණ වයසට පත්වෙද්දි ඇය සාමාන්‍ය ගෘහ ජීවිතයකට එළඹුන් නෑ. තරුණ වියේදීම අන්‍ය පිරිවැජි පිරිසක් එක්ක ඇය එකතු වුනා. ඒ පිරිවැජි පිරිස තර්ක කරාපු පිරිසක්, වාද ගොඩ නගාපු පිරිසක්, වාද කර කර වාද කර කර ප්‍රසිද්ධියක් හදාගත්තු පිරිසක්. එතකොට ඒ ඇයන්ව ඇසුරු කරනකොට ඈත් පුරුදු වුනා වාද කරන්න. ඇසුර කියලා කියන්නෙ ජීවිතයට, මේ ජීවිත පරිවර්තනයට සම්පූර්ණයෙන්ම බලපාන එකක් ඇසුර. ලාමක තැනැත්තෙක් ඇසුරු කරන්න සිද්ධ වුනොත් තමුන්ගේ ජීවිතෙත් ලාමක වන්නේය. අසත්පුරුෂයෙක් ඇසුරු කරන්න සිද්ධ වුනොත් තමන්ගේ ජීවිතයටත් අසත්පුරුෂයාගේ අසත්පුරුෂ ගති එකින් එක එක් වන්නේය. ඒ වගේමයි උතුම් පුරුෂයෙක්ව, කල්‍යාණමිත්‍රයෙක්ව සත්පුරුෂයෙක්ව ඇසුරු කරන්න ලැබුනොත්, ඒ සත්පුරුෂයාගේ තියෙන සොඳුරු ගුණ තමන්ගේ ජීවිතයටත් ටිකෙන් ටික, ටිකෙන් ටික සමීප වන්නේය. ඒක මේ වගේ. අපි හිතමු සුදුහඳුන් කෑල්ලක් එහෙම නැත්නම් රත්හඳුන් කෑල්ලක්, මොකක් හරි රෙදි කඩකින් ඔතනවා. රෙදි කඩ කියලා කියන්නෙ සුවඳ හමන එකක් නොවෙයි. හැබැයි ඒ රෙදි කඩ එතුයේ රත් හඳුන් කෑල්ලක. ඒ රෙදි කෑල්ල එතුවේ සුදු හඳුන් කෑල්ලක්. ටික කාලයක් ගතවුනාට පස්සෙ මේ රත් හඳුන් කෑල්ලේ යම් සුවඳක් තියෙනවාද, සුදුහඳුන් කෑල්ලේ යම් සුවඳක් තියෙනවාද, මෙන්න ඔතපු ලේන්සුවෙනුත්, ඔතපු රෙදි කෑල්ලෙනුත් ඒ සුවඳ එන්න පටන් ගන්නවා. යහපත් අය ඇසුරු කළොත්

යහපත සම්බන්ධ වෙන්නෙ අන්න ඒ වගේ. අපි හිතමු හොඳ පිරිසිදු රෙදි කෑල්ලක කුණු ගඳ ගහන මස් කෑල්ලක් හරි, කුණු ගඳ ගහන කරෝල කෑල්ලක් හරි එතුවා. රෙදි කෑල්ල කියලා කියන්නෙ ගඳ ගහන එකක් නෙවෙයි. වැඩේ කියන්නෙ රෙදි කෑල්ලෙන් එතුවේ කරෝල කෑල්ලක්, කුණු ගඳ ගහන දෙයක්. ටික කාලයක් යනකොට අර කරෝලය රෙදි කෑල්ලෙන් ඉවත් කලත් රෙදි කෑල්ලෙනුත් කරෝල ගඳ එන්න පටන් ගන්නවා. අන්න ඒ වගේ තමයි අසත්පුරුෂයාගේ ලාමක ඇසුර. ඉතින් ඔහොම තමයි සිද්ධ වුනේ. මේ උදාහරණ වලින් තමන්ගේ ජීවිතේ ගැනත් තේරුම් ගන්න. තමන් ඇසුරු කරන්න කොයි කොයි වගේ අයද තෝරාගත යුත්තේ. ඇසුරින් බැහැර කළයුත්තේ කොයි වගේ අයද. තමන්ගේ ඇසුරට සමීප කරගත යුත්තේ කොයි වගේ අයද කියලා ජීවිතේ යහපත කැමැති කෙනා මේවගෙන් තෝරා බේරාගන්න ඕන. වාදය සාරය කරගෙන හිටපු පිරිසක් ඇසුරු කරපු නිසා මේ නන්දුත්තරාවත් වාදය සාරයක් කොට හිතුවා. ඈ දක්ෂයි. ඈ දක්ෂ හින්දාම ඇය මේ වාද පිරිස අතරේ හොඳට වාද කරන කෙනෙක් බවට පත්වුනා. දැන් ඇය යම් කෙනෙක් සමඟ එකට වාඩිවෙලා වාදයක් පටන් ගත්තොත් අනික් අය පරදිනවාමයි. පරදිනකොට පරදිනකොට ඈ ප්‍රසිද්ධ වෙන්න පටන් ගත්තා. ප්‍රසිද්ධ වෙනකොට ඈටත් ආඩම්බරයක් හටගත්තා. දැන් දඹ අත්තක් අතින් අරගෙන ඈ ගමින් ගමට නගරයෙන් නගරයට යනවා. යන යන තැන ඉන්නවාද වාද විවාද කරගන්න, වාදයන්ගේ පටලැවෙන පණ්ඩිත යැයි සම්මත අය, ඒ අයත් එක්ක මැය වාඩිවෙලා වාද කරනවා. වාදයෙන් පරද්දනවා. නන්දුත්තරා කියන නාමය ඔය දඹදිව හරීයට ප්‍රසිද්ධ වෙලා තියෙනවා. වාද කර කර වාද කර කර ඇවිද්දා. ඔහොම ඇවිද යනකොට ඈට එක ජනපදයකදී, අපේ මහා මොග්ගල්ලාන මහරහතන් වහන්සේව මුණගැහුනා. මහාමොග්ගල්ලාන මහරහතන් වහන්සේ කියලා කියන්නෙ මේ සම්බුද්ධ ශාසනයේ ධර්ම පුරෝහිතයන් වහන්සේ. අපේ ශාස්තෲන් වහන්සේගේ ද්විතීය අග්‍රශ්‍රාවකයන් වහන්සේ. අපේ මහාමොග්ගල්ලාන මහරහතන් වහන්සේ පැවිදි වෙන්න පෙර කෝලිත තරුණයා කාලෙ ත්‍රිවේද පරප්‍රාප්ත කෙනෙක්. හොඳට බමුණන්ගේ ඉගැන්වීම් ගැන දැනගෙන හිටපු කෙනෙක්. ඉතින් මේ නන්දුත්තරාව දැන් මේ ඉගෙන ගෙන වාද කරන ඔක්කොම උන්වහන්සේ ඒ කාලෙත් දන්නවා. ඒ නිසා මේ නන්දුත්තරාත් එක්ක වාදය අපේ මහාමොග්ගල්ලාන මහරහතන් තමන්ගේ වාදය ඉදිරිපත් කරනවා. මෙහෙම වාදය පටන් ගන්නකොට නන්දුත්තරා අහන අහන ප්‍රශ්නෙට මහමොග්ගල්ලාන මහරහතන් වහන්සේ

සැණෙකින් පිළිතුරු දෙනවා. ඇයි පින්වතුනේ චතුපටිසම්භිදාලාභී රහතන් වහන්සේ නමක්නෙ. අර්ථ ධර්ම නිරුක්ති පටිභාණ කියන මේ සිව්පිළිසිඹියා තිබුනු ඍද්ධි බලයෙන් අග්‍ර මහා නුවණැති අපේ මහාමොග්ගල්ලාන මහරහතන් වහන්සේ ඉස්සරහ වාද ඔක්කොම සිඳී ගියා. හරියට මහා හස්තිරාජයෙක් විලකට බැහැලා නිකං නෙළුම් දඬු කඩලා දානවා වගේ. ඉතා පහසුවෙන්, ඉතා පහසුවෙන් මහමොග්ගල්ලාන මහරහතන් වහන්සේ අර නන්දුත්තාර කියන මහා වාදිනිය, හැම තැනම ප්‍රසිද්ධ වෙච්චි කෙනා එයාගේ වාද ටික ඔක්කොම නැත්තටම නැති කලා. දැන් අහන්න ප්‍රශ්න නෑ, නන්දුත්තරාගෙ කට වැහුනා. ලැජ්ජාවට පත්වෙලා, රතුවෙලා. ඔළුව පාත් කරගත්තා. මුගලන් මහරහතන් වහන්සේ අහනවා තිට තවත් වාද තියෙනවාද. එතකොට කිව්වා මගේ වාද අවසන්.ආ, එහෙනම් මාත් ප්‍රශ්නයක් අහන්නම්. තී පිළිතුරු දෙන්න කිව්වා. මුගලන් මහරහතන් වහන්සේ අහනවා මේ ශාසනයේ නුවණැත්තන්ගේ විෂයට අදාළ ප්‍රශ්නයක්. මුගලන් මහරහතන් වහන්සේ ඇහුවා, එහෙනම් තී කියන්න එක කියන්නෙ මොකක්ද, ඒක ඇහුවා විතරයි මේ වාද වල පටලැවී පටලැවී වාදයන්ගෙන් සතුටු වෙවී හිටපු කෙනාට නුවණැත්තන්ගේ විෂයට අදාල ප්‍රශ්නය ඉස්සරහා කිසිවක් නොවැටහී ගියා. හරියට මහා ඝන අන්ධකාරයේ කට්ට කළුවරේ මොකුත් පේන්නෙ නෑ වගේ. මේකට උත්තරයක් ඈ දෙන්නෑ, ඈ කිව්වා අනේ ස්වාමීනී මට ඒක තේරෙන් නෑ කියලා. එතකොට මුගලන් මහරහතන් වහන්සේ කියනවා එය සම්බුද්ධ ශාසනයේ තියෙන, සම්බුද්ධ ශාසනයට අයිති ප්‍රශ්නයක්. එයට විසඳුම් හොයාගන්න නම් ඔබ මේ බුද්ධ ශාසනයට එන්න ඕන. ඔක්කොම අත්හැරියා. ඉතින් ඒ නුවණ නිසා. ඒ නුවණ නිසා ඔක්කොම දේවල් අත්හැරියා, අර හිතේ තිබුනු මතිමතාන්තර අතහැරියා. අතහැරලා බුද්ධ ශාසනයේ තෙරුවන් සරණ ගියපු ශ්‍රාවිකාවක් බවට පත්වුනා. මේ නන්දුත්තරාව අර අන්‍ය තීර්ථක පිරිවැජියන්ගේ ආශ්‍රම අත්හැරලා ඇවිල්ලා බුද්ධ ශාසනයේ සිවුර දරාගත්තා. ඉතින් ඒ පැවිද්දට පත්වෙලා නොබෝ කලකින්ම ඇයට පුලුවන් වුනා සියලු කෙලෙස් නැසූ අර්හත් උත්තමාවියක් බවට පත්වෙන්න. එතකොට බලන්න අර්හත්වය පසක් කරන්න තරම් මහා පින් බලයක් දරාගෙන ආපු අයත් මේ දහම් පද අහලා පින්වතුනේ කෙලෙස් නසනවා කියන එකට ලොකු පිනක් තියෙන්න එපැයි. එහෙම මහා පිනක් තිබුනු අයත් ලාමක ඇසුරක් නිසා ලාමක දේවල් වලට ගොදුරු වෙලා හිටියා. හැබැයි ඒ පින තිබුනු නිසා හරි ඇසුරු හම්බෙච්චි ගමන් එක සැණෙකින් අර ලාමක දේවල් අතහරින්න හැකියාව ඇට

ලැබුනා. පින තිබුනු නිසා. මේක පිනකම තියෙන ආශ්චර්යයක්. යහපත් කොට පින් රැස් කරපු කෙනා අයහපතකට යොමු වෙලා හිටියත්, එයාට යහපත ගැන අහන්න ලැබෙනකොට එක සැණෙකින් පුලුවන් අර අයහපත් දේවල් අතහැරලා දාන්න පින් තිබුනොත්. පින් නැති, වාසනාව නැති, අභාග්‍ය සම්පන්න කෙනාගේ චරිත ස්වභාවය මොකක්ද? ඒ කෙනාට සමහර වෙලාවට යහපත් ඇසුරක් හරි ඇසුරක් සත්පුරුෂ ඇසුරක් මුණගැහෙනවා. ඒක මුණගැහිලා ඉද්දි ඔන්න අසත්පුරුෂයෙකුගෙන් මොකක් හරි එකක් අහන්න ලැබෙනවා. අහන්න ලැබෙනකොට ඒ කෙනා යහපත බැහැර කරනවා, මේ අයහපතයි කියලා. හරි දේ බැහැර කරනවා මේ වැරදි දේ කියලා. වැරදි දේ හරි කියලා අල්ලගන්නවා. අයහපත යහපත කියලා අල්ලගන්නවා. අසත්පුරුෂයා සත්පුරුෂයා කියලා අල්ලගන්නවා. සංසාරෙ ගැනමයි කළකිරෙන්න තියෙන්නෙ. සංසාරෙ කොච්චර භයානකද. වර්තමානයේ වුනත් අපිට පේනවානෙ අසත්පුරුෂයන්ව සත්පුරුෂයා කරගෙන, අසත්පුරුෂයන් කියනවා මේ තමයි මගේ සත්පුරුෂයා කියලා, මේ තමයි අපේ සත්පුරුෂයෝ කියලා අසත්පුරුෂයන්ට කියනවා. අසත්පුරුෂ ආශ්‍රයට අහුවෙලා. බේරගන්න කිසි කෙනෙක් නෑ. බේරගන්න යම් කෙනෙක් සත්පුරුෂ බණ පදයක් කියනවා නම් ඒ කෙනා අසත්පුරුෂයෙක් කොට සළකනවා. හේතුව පින මදකම. පිනෙන් තමයි වාසනාව උදා කරලා දෙන්නේ, පින නැත්නම් වාසනාව කොහොම ලබන්නද. අන්න ඒ නිසා පින්වතුනේ මේ කාරණය අපි තේරුම් ගන්න තියෙන්නෙ ඒ විදියට. ගොඩාක් අපේ ජීවිත වලට උවමනා කරන දෙයක්. පින රැස් කොට තිබීම. ඒ නිසා මහා කාරුණික බුදුරජාණන් වහන්සේ දේශනා කලේ පින කියන එක ජීවිතේට එකතු කරගන්න කිව්වා හරියට මේ වතුර බිංදුව බිංදුව වැහෙන තැනක කලයක් තියලා ඒ වතුර බිංදුවත් අහක යන්න නොදී රැකගන්නවා වගේ, පින කියන එක රැකගන්න කිව්වා. ඇයි හේතුව, ඒ ටික ටික හරි රැස් කරගන්න පින තමයි අපේ ජීවිතයට වාසනාව උදා කරලා දෙන්නෙ. ඒ නිසා පින්වතුන්ලා හොඳට තේරුම් කරගන්න මේ කාරණා. තමන්ගේ ජීවිතේට හොඳට පින් කරගන්න ඕන. පින් කරගැනීම පිණිස අවකාශ මේ කාලෙ හොඳටම උදාවෙලා තියෙනවානෙ. අපිට තෙරුවන් සරණ සහිත, ඊළඟට හොඳට සෑය බෝධිය ආදිය වන්දනා කර කර පින් රැස් කරගන්න පුලුවන් ජීවිත ලැබිලා තියෙනවානෙ. අපිට බණ පද අහන්න පුලුවන්. ධර්මය කියවන්න පුලුවන්. අවස්ථා ඔක්කොම උදාවෙලා තියෙනවා. ඒ උදාවෙච්චි අවස්ථාවේ එකම පිනක්වත් අහක යන්න නොදී ඒ පින ආසාවෙන් එකතු කරගන්න. මොකද භාග්‍යවතුන් වහන්සේ වදාළා තම්හි ඡන්දං කයිරාථ,

පින කියන එකට කැමැත්ත ඇති කරගන්න කියලා. ඇයි පිනට කැමැත්ත ඇති කරගන්න කියලා භාග්‍යවතුන් වහන්සේ වදාළේ සුඛො පුඤ්ඤස්ස උච්චයො, පින යනු සැපයටම කියනවා අධිවචනයයි. සැපයටම කියනා සමාන පදයයි. සැප කැමැති කෙනා සැප කැමැත්තෙන් පින් රැස් කරගත යුත්තේය. හේතුව සැපය කියලා කියන්නෙ පිනටමයි. ඉතින් එහෙම පින් කරලා තිබුනු නිසා මේ උත්තමාවියට පුලුවන් වුනා අර තමන්ගේ වැරදිලා තිබුනු පාරවල් ඔක්කොම අත්හැරලා මුගලන් මහරහතන් වහන්සේගේ ඇසුර මුණගැහිච්චි වෙලාවේ සම්බුද්ධ ශාසනයට එන්න, ඈ අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. ඒ අර්හත් උත්තමාවියක් බවට පත්වුනාට පස්සෙ තමන්ගේ ජීවිත පරිවර්තනය ගැන ඇය ථෙරීගාථා වලදී වදාළා. ඉතින් බොහෝ වෙලාවට මේ ථෙරීගාථා කියවලා බලනකොට අපිට තේරෙන දෙයක්, මේ රහත් තෙරණිවරු මේ ගාථා වදාරන්න ඇත්තේ පිරිනිවන් පාන්න ආසන්න සමයේ අනික් ජීවත් වෙලා ඉන්න, ආසාවෙන් ධර්මයේ හැසිරෙන භික්ෂුණීන් වහන්සේලාට, ඊළඟට ශ්‍රාවක පිරිසට අනුකම්පා පිණිසයි ඒ උත්තමාවියො මේ ගාථා වදාළේ. බලන්න ඒ ගාථාවල කියන කාරණය. ඉස්සර මං වන්දනා කළේ ගිනි දෙවියන්ට. සඳ දෙවියන්ට, හිරු දෙවියන්ට. ගංගා වල තියෙන පුණ්‍ය තීර්ථ වලට ගිහින් වතුරට බැහැලා මං පව් සේදුවා. දැන් හරියට තියෙනවානෙ. මේ කාලෙ වෙනකොටත් ඉර හඳ කියන එක තමන්ගේ ජීවිතේට මහා බලපෑමක් කරන දේවල්ය කියලා නැකැත් කේන්දර ශාස්ත්‍ර හදාගෙන ඒවා පස්සෙ යන්නෙ නැද්ද, මෙකලත් තිබේ. ඒවා එකලත් එසේම තිබුනා. ඒ ලාමක දේවල් එකලත් තිබුනා ඉතින්. හරියට තියෙනවා බමුණු පිරිස් අතරෙ ගිනි දෙවියන් පිදීම. ගිනි දෙවියන් පුදනවා කියලා ගින්නට යාග කරනවා. සත්තු මර මරා මහා භයානක යාග. දැන් අදටත් ඉන්දියාවේ ගත්තොත් එහෙම එළුවො එහෙම දහස් ගණන් මර මරා දෙන යාග තියෙනවානෙ පින්වතුනි. ඉතින් ඒවා අදටත් එහෙම දකින්න ලැබෙන දේවල්. ඊළඟට ගංගා වලට ගිහිල්ලා පව් හෝදා ගැනීම කියන එක. මේ ගංගා වල ගිලිලා ඒ සීතල වතුරෙන් ගත සෝදා ගත්තහම පව් සේදෙනවා කියන මතය. ලෝකයේ මෙච්චර දියුණුයි කිව්වට අදටත් ඒ මතිමතාන්තර එහෙම්ම තියෙනවා, මිනිස්සු එහෙම කරනවා, ඉතින් මේ නන්දුත්තරාවත් අන්‍ය තීර්ථකයොත් එක්ක ඉන්නකොට මේවා තමයි කර කර ඉඳලා තියෙන්නෙ. නොයෙක් ව්‍රත සමාදන් වුනා. හිසේ භාගයක් මුඩ කරගත්තා. බිම නිදාගත්තා. කිසීම දෙයක් රෑට කෑවෙ නෑ. ඉතින් ඒ රෑට නොකෑම කියන එක පුරුදු කරලා තියෙන්නෙ ව්‍රතයක් විදියට. ව්‍රත කියලා කියන්නෙ ඒ ව්‍රත සමාදානය කියලා

කියන්නෙ ජීවිතයේ වැරදි මතයකට අහුවෙලා ඒ මතය වෙනුවෙන් කරන කැප කිරීම් වලට. දැන් ගොඩාක් බ්‍රාහ්මණ ආදී ගත්තහම මහා බ්‍රහ්මයා ළඟට යන්න පතාගෙනනෙ ඉන්නෙ. ඒ අය ඒ උදෙසා එක එක ව්‍රත සමාදන් වනෙවා. ඒවා සමාදන් වෙලා ඒවාගේ පටලැවිලා ඒවා තුළ හික්මෙන්න මහන්සි ගන්නවා. දැන් අපි ගත්තොත් වෙන වෙන ආගම් තියෙනවා. ඒ ආගම් දර්ශන වල වුනත් ඒවාට සීල කියලා කියන්නෑ, ඒවාට කියන්නෙ ව්‍රත. ඒ ව්‍රත සමාදන් වෙලා සමහර වෙලාවට කන්නෙ බොන්නෙ නැතිව ඉන්නවා. මේ වගේ නොයෙක් දේ. ඉතින් ඒවත් එක්ක තමයි කියනවා මමත් හිටියෙ. ස්ත්‍රියාවක් විදියට බලන්න හිසේ භාගයක් මුඩු කරගෙනත් ඉඳලා තියෙනවා. ඒ ව්‍රත. ඒ කාලෙ ඒ විදියට ගත කරලා ආයෙමත් ගෙදර එනවා. හොඳට වතුර නාගන්නවා. ඇඟ පත උලා පිරිසිදු කරගන්නවා. ඊටපස්සෙ ලස්සනට හැඳ පැළඳගෙන හැඩ වෙනවා. කාමරාගයෙන් මුසපත් වෙලා මේ සිරුර සනසවනවා. මේ අන්‍ය තීර්ථක පිරිවැජියෙක් විදියට මහණ වෙන්න කලින් මේ අන්‍ය තීර්ථකයොත් එක්ක එකතු වෙවී කරපු ඒවා මේ කියන්නෙ. ව්‍රත සමාදන් වෙලා ඉන්න කාලෙ නම් ඒවා ඔක්කොම ඒ විදියට කරනවා කියනවා. එහෙම කර කර ඉඳලා අවසානෙ, අපි හිතමු මාසයක් ඕවා සමාදන් වෙලා හිටියා කියලා. මේ මාසෙට පස්සෙ ආයෙ ගෙරද එනවා. ගෙදර ඇවිල්ලා අර බිම නිදාගන්න එක අතහරිනවා හොඳට ඇඳක් උඩ නිදාගන්නවා. ඊළඟට හොඳ සුවපහසු දේවල් පරිහරණය කරන්න පටන් ගන්නවා. අර නොකා නොබී හිටපු ඒවටත් එක්ක හරියන්න හොඳට කනවා. ඉතින් එහෙම කරනවා කියනවා. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ මුණගැහුනාට පස්සෙ ඔය ඔක්කොම වැරදි ඒවා අතහරින්න පුලුවන් වුනානෙ. ඒ අතහැරියාට පස්සෙ පරිවර්තනය බලන්න; තතො සද්දං ලභිත්වාන පබ්බජිං අනගාරියං දිස්වා කායං යථාභූතං කාමරාගො සමූහතො - එහෙත් දැන් මං බුදු සසුන ගැන ගොඩාක් පැහැදුනා. මං මහණ වුනා. මේ ශරීරයේ සත්‍යය තත්වය පේනකොට කාම ආසාව නැත්තටම නැතිවෙලා ගියා. ධර්මය තුළ මේ ජීවිතයේ ඇත්ත කියලා දෙනවා. ජීවිතයේ සත්‍ය කියලා දෙනකොට ඒ සත්‍යවාදී වූ බුදුරජාණන් වහන්සේ විසින් මේ ශරීරයේ තියෙන ඇත්ත ගැනත් දේශනා කලා. එතකොට මේ නන්දුත්තරා කියන අර්හත් උත්තමාවිය දේශනා කරනවා, මට බුදුරජාණන් වහන්සේගේ ධර්මයෙන් මේ ශරීරයේ ඇත්ත ගැන අහන්න ලැබුනා. එහෙම අහන්න ලැබෙනකොට මේ ශරීරය ගැන තියෙන ඇල්මත් නැතිව ගියා. කාමාසාව නැත්තටම නැති කරලා දැම්මා කියනවා. අවසානයේ ඇගේ අර්හත්වය ගැන ඇ මෙන්න මේ විදියටයි කිව්වේ. සබ්බේ

භවා සමුච්ඡින්නා ඉච්ඡා ච පත්තනා පිච සබ්බයෝග විසංයුත්තා සන්තිං පාපොනි චේත සෝති - සියලු භවයන් මුලින්ම නැති කරලා දැම්මා. කැමැති දේවල් පතන දේවල් දැන් මං තුල නෑ. හැම කෙලෙස් වලින්ම වෙන්වෙලා චිත්ත ශාන්තියට පත්වුනා. මේ කාමය තුළ පතන දේවල්, කාමය තුළ කැමැති වෙන දේවල් මේ මොකුත් දැන් ජීවිතේ නෑ කියනවා. කැමැති වෙන දේවල් යම් තැනක තියෙනවා නම් පතනා දේවල් යම් තැනක තියෙනවා නම් හොදට මතක තියාගන්න එතන තියෙන්නේ දුකයි. ඉච්ඡාව යම් තැනක තියෙනවා නම්, ඉච්ඡාව කියලා කියන්නෙ කැමැති වුනු දේ. යම් තැනක ඉච්ඡාව තියෙනවා නම් මේ කාම වස්තූන් කෙරෙහි ඉච්ඡාව ඇති තැන දුක බැඳී තිබේ. එනම් ඉච්ඡාභංගත්වයයි. ඉච්ඡාව තියෙනකෙනාට ඉච්ඡාව භංග වෙනවා කියලා එකක් වෙනවා. කැමැති දේ නොලැබී යන්නේය. කැමැති වෙච්ච දේ කැමැති වෙච්ච ආකාරයට සිදු නොවන්නේය. එතකොට ශෝකය, කණගාටුව, දුක හටගන්නවා. ප්‍රාර්ථනාව යම් තැනක තියෙනවා නම් ප්‍රාර්ථනා සඵල නොවීම කියන එකට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. අපේ ප්‍රාර්ථනා අපේ සිහින බිඳවැටෙනවා. ඒවා ඒ සිහින බිඳ වැටීයනවා. සිහින බිඳවැටුනහම උහුලගන්න බෑ, සිහින බිඳවැටුනාට පස්සෙ පපුවෙ අත් ගගහා අඬනවා. යම් කෙනෙකුට නැත්නම් කැමැති වෙන දේවල්, යම් කෙනෙකුට නැත්නම් ප්‍රාර්ථනා, සිහින ඒ කෙනාට ඉච්ඡා භංගත්වයද නැත. ඒ කෙනාට ප්‍රාර්ථනා බිඳ වැටීමද නැත. ඒ කෙනාට සිහින බොඳවී යාම් ද නැත. එතන ඇත්තේ සැනසිල්ලයි. ඒ සැනසිල්ලට තමයි පින්වතුනේ කියන්නෙ කෙලෙස් නසා පරම සැපයට පත්වීම, එහෙම නැත්නම් අමෘත නිවන කියලා. ඉතින් මේ නන්දුත්තරා කියන උතුම් තෙරණින් වහන්සේ ඒ නිවනේ සැනසුනා. නිවනේ සැනසුන නන්දුත්තර අර්හත් උත්තමාවියට නමස්කාර කරමින් අපිත් අධිෂ්ටානයක් ඇතිකරගනිමු අපිටත් මේ ගෞතම ශාසනය තුළ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයො විදියට තෙරුවන් සරණ යන්න ලැබිච්ච ජීවිතේ නොයෙක් නොයෙක් මතවාද ආදියේ ගැලි ගැලී පටලැවී ඉන්නැතිව බුදුරජාණන් වහන්සේ දේශනා කරපු ධර්මය ගැන හොඳින් හිත පහදවාගෙන ඒ ධර්මයට අනුකූලවම නුවණින් විමසමින් කල්‍යාණ මිත්‍ර ඇසුරෙු දහම් මග දියුණු කරගන්න, ජීවිතයට රැකවරණය පිණිස සුවසේ පින් කරගන්න අපිට අවකාශ සැලසෙත්වා. එසේ පින් පුරාගෙන අපිටත් මේ ගෞතම ශාසනය තුළ රහතන් වහන්සේලා නිවී සැනසුනු, රහත් තෙරණිවරු නිවී සැනසුනු නිවනේ සැනසෙන්න ලැබේවා. සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අපි අනුමෝදන් කරමු සියලු දෙවිවරුන්ට, සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරුන්, සෙන්පති දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවියෝ සතුටින් පින් අනුමෝදන් වෙත්වා, අපගේ ඉෂ්ටකාමී හිතකාමී සියලු දෙවියෝ පින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන් වන දෙවිවරු දිව්‍ය සැපයෙන් වැඩෙත්වා, ඒ සියලු දෙවියන්ගේ ආශිර්වාදය රැකවරණය උපකාරය අප හැමදෙනාටම නොඅඩුවම සලසා දෙත්වා, දෙවියෝද සංසාර දුකින් අතමිදේවා. සාදු සාදු සාදු!!! අපගේ කල්‍යාණ මිත්‍ර මාගේ ගුරුදේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ සියලූම පුණ්‍ය ධර්මයන් අනුමෝදන්ව පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වෙත්වා, නිරෝගී වෙත්වා, දීර්ඝායුෂ ලබත්වා, මේ ගෞතම ශාසනය තුළ උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද ධර්ම දානය සිදු කරන ඒ පින්වත් මුදිතා වික්‍රමසිංහ මෙනෙවියගේ ප්‍රධාන අරමුණ ලෙස සඳහන් කොට ඇති පරිදි එතුමියගේ නමින් 2020 ජූනි මාසයේ 22 වන දින මීට වර්ෂයකට පෙර මියපරලොව යන්නට යෙදුනා වූ පින්වත් රූබි වික්‍රමසිංහ මැණියන්ට මේ සියලූම පින් අනුමෝදන් වෙත්වා. අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. මියපරලොව ගිය ග්‍රේස් මැටිල්ඩා, සැමී අප්පුහාමි, ඇග්නස් ගුණසේකර, සීවින් මෙන්ඩිස්, ක්‍රිස්ටා මෙන්ඩිස්, මර්නි වික්‍රමසිංහ, මිලී වික්‍රමසිංහ, සෝමා ගුණසේකර, ඩිල්කි ද සිල්වා, ලීලා ගුණසේකර, රිචඩ් ද සිල්වා, වෙල්ටන් ද සිල්වා, හේරා ගුණසේකර, ලෙස්ලි ගුණසේකර, ප්‍රියදේව පෙරේරා, ලයනල් වීරසූරිය සහ සුමනා හෙයියන්තුඩුව යන මේ මියගියා වූ සියලූම ඥාතීන්ට පින් අනුමෝදන් ව ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා, ඒ ඥාතීන්ටත් දුක් සහිත සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙන්න ලැබෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනාව සිදු කරන්න. සුජීවත්ව සිටින පින්වත් කිංස්ලි වික්‍රමසිංහ පියාණන්ට පින් අනුමෝදන් වෙලා නිදුක් නිරෝග සුවය දීර්ඝායුෂ සැලසේවා. මලී සහ තරංගා යන සහෝදරියන්ටත් සංජීව සොහොයුරාටත් මේ පින් අනුමෝදන් වෙත්වා. දරුවන් වන සුමුදු, චාමින්ද, පසිඳු, ටවීෂා, මින්තක සහ තෙනුම් කියන ඒ දූදරුවන්ටත් පින් අනුමෝදන් වෙලා ඒ දරුවන්ට බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක දූලා පුතාලා විදියට සම්බුද්ධ ශාසනයේ පිළිසරණ ලබන්න වාසනාව ලැබේවා. නෙස්ලින් සහ පියසේන යන දෙදෙනාටත් මේ සියලූම පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදය නොඅඩුවම ලැබේවා. අද දවසේ දායකත්වයන් දරනු ලැබූ නො.1335/3,

බෝගහවත්තපාර, පන්නිපිටිය යන ලිපිනයේ පදිංචි පින්වත් මුදිතා වික්‍රමසිංහ මෙනෙවියටත්, එතුමියගේ පවුලේ සෑම සියලුදෙනාටත් මේ සියලුම පින් අනුමෝදන් වෙත්වා. මේ පින්වල ආශිර්වාදයෙන් තෙරුවන් සරණින් සියලු දෙවියන්ගේ රැකවරණින් ජීවිතය සුවසේ ගත කරන්නටත්, නිරතුරුව කල්‍යාණමිත්‍ර ඇසුර ලබන්නටත් වාසනාව ලැබේවා. ධර්ම දානය සිදු කල පින්වතුන්ලාටත්, සුපින්වත් ඔබ සෑම සියලු දෙනාටත් ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා රූපවාහිනී කාර්ය මණ්ඩලයේ හැමදෙනාටත් තමන්ගේ ජීවිතයට සුවසේ පින් කරගෙන සුවසේම දහම් මග දියුණු කරගෙන ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබේවා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=ExaAvCtSoFo

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අද දවසේ මේ උතුම් ධර්ම දේශනාවට දායකත්වයන් දරනු ලබන්නේ උපන්දිනය සමරන මෙල්බර්න්හි වෙසෙන ශාක්‍යා ශ්‍රීදේවී රුවන්පතිරණ මහත්මිය විසින්. එතුමියගේ උපන්දිනය නිමිති කරගෙන තමන්ගේ පවුලේ ඥාති හිතමිත්‍රාදී සෑම සියලුදෙනාට සෙත් ප්‍රාර්ථනා කරන අදහසින්, ඒ වගේම තමන්ගේ නමින් මියගිය සියලු ඥාතීන්ට පින් අනුමෝදනා කරන අදහසිනුයි අද ධර්ම දානය මේ විදියට සිද්ධ කරන්නෙ. අප මහා කාරුණික ශාස්තෘන් වහන්සේ ධම්ම පදයේදී බොහොම ලස්සන

ගාථාවක් වදාළා. යො වෙ ගාතා සතං භාසෙ අනත්ත පද තංහිතං - යම් කෙනෙක් මෙලොව පරලොව අයහපත පිණිස පවතින වචන සීයක් එක දිගට කිව්වත්, ඒ වචන කතාවට වඩා, ඒතං ධම්මපදං සෙයයා යං සුත්වා උපසම්මතෙ - යම් එකම එක දහම් පදයක් වේද, ඒ දහම් පදය අසා සිත් සුවපත් වන අර වැඩකට නැති ගාථා සීය අහනවාට වඩා ඒ සිත් සුවපත් කරන එකම එක දහම් පදය ශ්‍රේෂ්ටයි. යො සහස්සං සහස්සෙන සංඝාමේ මානුසෙ ජිනෙ - ඇයි ඒ එකම එක ධම්ම පදය ශ්‍රේෂ්ට වෙන්නෙ, එක අර්ථ පදය ශ්‍රේෂ්ට වෙන්නෙ. මේ ලෝකෙ පින්වතුනේ මොන දේ ජය ගත්තත් මිනිස්සු නොයෙක් නොයෙක් ඉලක්ක තියාගෙන නොයෙක් නොයෙක් ජයග්‍රහණ වලට මහන්සි ගන්නවා. ඒ මොන තරම් ජයග්‍රහණ තිබුනත්, ජයගැනීම් තිබුනත් ඒ ජයගැනීම් සිය ගණන් දහස් ගණන් කලත් යුද්ධ දාහක් ජයගත්තත්, ඒකං ච ජෙයයත්තානං සවේ සංගාම යුත්තමො - ඒ යුද්ධ දාහටම වඩා වටින්නෙ තමාව ජයගැනීමයි. තමාව දිනන එක. සවෙ සංගාව යුත්තමො - යමෙක් තමාව ජය ගන්නේ වේද එය වනාහි උතුම්ම සංග්‍රාමයයි. තමාව ජයගැනීම. තමාව ජයගැනීම කියන එක කරගන්න පුලුවන් වෙන්නෙ පින්වතුනේ මේ ජීවිතේ ගැන තේරුම් ගැනීමෙන්. ජීවිතේ ගැන තේරුම් නොගන්නා තාක් තමන්ව ජයගන්න පුලුවන්කමක් නෑ. තමන්ව ජයගැනීම කියන එක මේ බුද්ධ ශාසනය ඇතුලේ මහා පින් තිබුනු ස්ත්‍රී පුරුෂ දෙපාර්ශ්වයම, පින් තිබුනු අය කලා, තමාව ජයගැනීම. තමාව ජයගත්තා පින්වන්ත පුරුෂයො. අපි ඒ පුරුෂයන්ට කියනවා රහතන් වහන්සේලා. තමන්ව ජයගත්තා පින්වන්ත ස්ත්‍රීන්, ඒ ස්ත්‍රීන්ට අපි කියනවා රහත් තෙරණින් වහන්සේලා. ඒ අමා නිවන් දුටු රහත් තෙරණිවරු මේ දේශනා මාලාවේ අපි ඉගෙන ගන්නෙ තමාව ජයගත්තු ඒ මහා පින්වන්ත ස්ත්‍රීන් ගැන. අද අපි කතා කරන්නෙ මේ බුද්ධ ශාසනයේ අගතනතුරු ලැබූ මහා ශ්‍රාවිකාවක් ගැන. ඒ මහා ශ්‍රාවිකා භික්ෂුණිය අරඹයා තමයි බුදුරජාණන් වහන්සේ ධම්මපදයේ ඔය ගාථාවන් දේශනා කොට වදාළේ. කවරෙක්ද ඒ භික්ෂුණිය. ඒ භික්ෂුණිය තමයි භද්‍රාකුණ්ඩලකේසා රහත් තෙරණිය. ඒත දග්ගං භික්ඛවෙ මමසාවිකානං භික්ඛුනී නං කිප්පාභිඤ්ඤානං - මහණෙනි මාගේ ශ්‍රාවිකා වූ භික්ෂුණී සංඝයා අතරින් මේ වහා අවබෝධයට පත් වූ ඉක්මණින්ම ධර්ම අවබෝධ කරපු භික්ෂුණීන් අතර අග්‍ර වෙන්නේ භද්‍රාකුණ්ඩලකේසා නම් රහත් තෙරණියයි. මේ රහත් තෙරණියගේ චරිතාපදානය ආරම්භ වෙන්නෙ මීට කල්ප ලක්ෂයකට ඈත සිට. මේ වැඩසටහන් මාලාවත් එක්ක කලක් සිට සම්බන්ධ වෙන පින්වතුන්ලා දන්නවා බුද්ධ ශාසනයක් ඇතුලේ මහා ශ්‍රාවක ශ්‍රාවිකාවො

පදුමුත්තර බුද්ධ ශාසනයේ සිට කල්ප ලක්ෂයක ඈත සිට පෙරුම් දම් පුරනවා. පෙරුම් දම් පුරනවා කියන්නෙ මොකක්ද, ගුණ පූරණය කිරීම. පෙරුම් පුරනවා කියලා කරන්නෙ ගුණ පුරන එක. ගුණවත් වෙන එක. ජීවිතේ ගුණධර්මයන්ගෙන් පූරණය කරන එක. ඒ ජීවිතේ ගුණධර්මයන්ගෙන් පූරණය කරගන්නකොට ඒ ජීවිතය පිනෙනුත් පිරෙනවා. ඒ පිනෙන් පිරිලා පිරිලා, පිනත් විසින් යම් උතුම්ම සැපයක් උපද්දනවාද, පිනක් විසින් යම් පරම සැපයක් උපද්දනවාද, ඒ පරම සැපය වූ අමෘත නිවනේ ඒ උත්තමයො උත්තමාවියො සැනසෙනවා. ඉතින් මීට කල්ප ලක්ෂයකට පෙර ඉඳලා තමයි පින පූරණය කරන්න පටන් ගත්තෙ. ඒ පින පූරණය කරනකොට පින්වතුනි ඒකට තව එකක් එකතු වුනා. පුදුමුත්තර බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ නිතර නිතර බණ අහන්න යනකොට දවසක් මුණගැහුනා ඒ බුදුසසුනේ වහා ධර්මාවබෝධ කරපු භික්ෂුණිය. ඒ භික්ෂුණිය මුණගැහුනට පස්සෙ මෑටත් හිතක් උපදිනවා අනේ මටත් ඒ වාසනාව ලැබෙනවා නම්. අනාගතේ බුද්ධ ශාසනයක මමත් සිවුරු පොරවාගෙන භික්ෂුණී සංඝයා අතරට එකතු වෙලා ඒ භික්ෂුණී සංඝයා අතරේ වහා ධර්මාවබෝධ කරපු භික්ෂුණිය බවට පත්වෙලා සසර දුකින් නිදහස් වෙන්න ඇතිනම් මටත්. අන්න එහෙම හිතක් උපන්නා. ඒ හිතත් මුල් කරගෙන තමයි පින් පුරාගෙන පැමිණියේ. එසේ පින් පුරාගෙන පැමිණිලා මේ බුද්ධ කාලේ අපේ තිලෝගුරු ශාන්තිනායක මහා කාරුණික බුදුරජාණන් වහන්සේ මේ ලෝකෙ පහළ වෙන කාලෙ ඈ උපදිනවා රජගහනුවර, බොහෝම ධනවත් සිටුපවුලක එකම සිටු දුව. මේ සිටු දියණිය, තරුණ වයසට එනකොට ඈ හරිම මනස්කාන්ත රූසපුවක් ඇති දුටු දුටුවන්ගේ මනනුවන් වසඟ කරවන තරම් ලස්සන රූපයක් ඇති ස්ත්‍රියක්. ඉතින් මේ තරුණ දුව හුදෙකලාවේම අර සිටු පවුලක මහා ධන සම්පත් මැද හැදෙනකොට ඈට කිසි අඩුවක් නෑ. ඉතින් ඈගේ ජීවිතේ හරි සුකුමාලයි, බරක්පතලක් තේරෙන්නෙ නැති ජීවිතයක් ඈය ගත කලා. බොහොම කෙලිසෙල්ලමෙන් තරුණ වයසේත් ඈය ජීවිතය ගත කලේ. එනකොට දැන් ඔන්න අවුරුදු දහසයේ වගේ හොඳම තරුණ වයසට, අපි කියනවා භද්‍ර යෞවනය. භද්‍ර යෞවන වයසට එනකොට දෙමව්පියො කතාවුනා, දැන් අපේ දූගේ කල වයස හරි. මේ කලවයසේදී තමයි දරුවො නොමග යන්නෙ. අපේ දූ නොමග යන්න පුලුවන්, ඒ නිසා පරිස්සම් කරන්න ඕන වයස. නැත්නම් මහා විනාශයක් තමන්ගේ ජීවිතේට ඇති කරගනීවි, ඔය අපේ කුලයට ගැලපෙන්නෙ නැති, අපේ පවුල් පැලැන්තියට ගැලපෙන්නෙ නැති කාත් එක්ක හරි පටලැවුනොත් එහෙම අපිට

හරි නස්පැත්තියක් වෙන්නෙ කියලා මේ සිටු පවුලේ දෙමව්පියෝ කල්පනා කලා. ඉතින් කල්පනා කලා ඇව රැකගන්න කියලා හොඳට සැප සම්පත් මැද ඇව සිටු මන්දිරේ ඉහළ තට්ටුවක තනිකරලා තිබුනා. දැන් දෙමව්පියෝ කල්පනා කරනවානෙ, දෙමව්පියො හරියට කල්පනා කරන එකක්නෙ, විශේෂයෙන් දියණිවරු ගැන. පුතාලා ගැනත් එහෙම තමයි, පුතාලගේ ආරක්ෂාව ගැනත් දෙමව්පියො හිතනවා. නමුත් දුවකගේ ආරක්ෂාව ගැන ගොඩාක් දෙමව්පියො හරියට සාමාන්‍යයෙන් පුතෙකුට වඩා හිතනවා. හේතුව දුවක් නොමග ගියොත්, නොමග ගිහිල්ලා වරදක බැඳුනොත් ඒ වරදින් ඒ දුව කිළිටි වුනොත් එයාගේ ජීවිතේ ආයෙ හදන්න බෑනෙ. ඒක ඊටපස්සෙ ඒ ජීවිතේට ලොකු කැළැලක් බවට පත්වෙනවා. ඒ නිසා දෙමව්පියන්ට ලොකු වගකීමක්, මහා හිසට බරක් එනවානෙ තරුණ දූලා ඉන්නකොට. ඉතින් පින්වතුන්ලාටත් දූදරුවො ඉන්න අය හැටියට පින්වතුන්ලාට මේ බර දැනිලා ඇති. තරුණ වයසට එනකොට, භද්‍ර යෞවනයට එනකොට දුවක්ව ආරක්ෂා කරගැනීමේ බය. ඒ උදෙසා හිතට එන බර. ඉතින් මේ සිටු පවුලේ දෙමව්පියන්ටත් එහෙම ආවා. ඒ නිසා ඒ ගොල්ලො සිටුවරු නිසා උඩුමහලක බොහොම පරිස්සමට දුව හැදුවා. යම් කාරණාවක් නිසා තාත්තෙ යන්න ඕන කියනවා නම් මොකටද පුතේ යන්න ඕන කියලා අහනවා, එතකොට මට අසවල් දේ ඕන කිව්වොත් ඇයට යන්න දෙන් නෑ, තාත්තා ඒ ඔක්කොම දේවල් සපයනවා. ඉතින් ඇයට තරුණ වයසේදී මේකත් එක්ක තිබුනා පොඩි තනිකමක්. දෙමව්පියො ඒ හිරකරපු එක ඇයට ලොකු බන්ධනයක් වගේ දැනුනා. ඇයට තේරුම් ගන්න බැරිව ගියා දෙමව්පියො මේ ආදරේටයි මේක කරන්නෙ කියලා. සාමාන්‍යයෙන් තරුණ වයසේ දූලාට පුතාලාට ලේසියෙන් තේරෙන්නෙ නැති එකක්නෙ දෙමව්පියො තමන්ව ආරක්ෂා කරනකොට මේ දෙමව්පියො මට ආදරේට කරන්නෙ කියන එක. සාමාන්‍යයෙන් තරුණ තරුණියො හිතන්නෙ දෙමව්පියො අපිව හිර කරනවා. අපිට නිදහස දෙන් නෑ, දෙමව්පියො අපිට නිදහස දෙන්නෑ, අපේ වයස් මට්ටම ගැන දෙමව්පියන්ට තේරුමක් නෑ. මේ වගේ මහා පණ්ඩිත කතා තරුණ තරුණියො කතා වෙනවානෙ. ඒ ඇයන්ට අමතකයි දෙමව්පියො වයසට ගියෙ තරුණ වයස පහුකරලා කියන එක අමතක වෙනවා. තරුණ කාලෙ වෙන එකක්. ඉතින් ඒකම වුනා මේ දුවටත්. ඇයට හරි වදේ මේක. ඈ උඩුමහලට වෙලා පාළුවෙන් ඉන්නකොට ඔන්න දවසක් ඈ සඳළුතලෙන් පාර දිහා බලාගෙන ඉන්නවා. ඒ පාර දිහා බලාගෙන ඉද්දි ඈට ඇහෙනවා මලබෙර ගහන හඬක්. මේ මලබෙරය ගහනවා කියන එක ඒ කාලෙ හරියට තිබිලා තියෙනවා.

කවුරුහරි කෙනෙකුට දණ්ඩන කරන්න අරන් යනකොට වධක භූමියට, ඒ වධක භූමියට අරගෙන යන්නෙ රතු මල් මාලා පළඳවලා, ඒ පුද්ගලයාගේ ශරීරයේත් රතු පාට ගාලා, ඉස්සරහින් බෙරයක් ගගහ මේකාව මේ මරන්නයි මේ අරන් යන්නේ කියලා නගරයේ ඉන්න මිනිස්සුන්ට තේරෙන්න, ඉස්සරහින් බෙරයක් ගගහා අරගෙන යන්නෙ. පිටිපස්සෙන් කස වලින් තල තල තමයි දක්කන් යන්නෙ. අර මරන්න අරන් යන පුරුෂයා ලේසියෙන් පියවරක් තියන්නෙ නෑ ඉස්සරහට. ඔහු මර බියෙන් වෙව්ලනකොට හරකෙක් දක්කන් යනවා වගේ කසයෙන් තල තල තමයි එකතු කරගෙන යන්නෙ. දැන් මේ බෙර සද්දෙත් එක්ක ඇය හොඳට බැලුවා. කාවද මේ දඬුවමට එකතු කරගෙන යන්නෙ. එහෙම ඈ බලනකොටයි ඈට පෙනුනේ ඒ තරුණයෙක්. ඒ තරුණයා දකිනකොට ඈට වෙනම එකක් වුනා. ඇය කල්පනා කලා, ෂා හරි ලස්සන කඩවසම් තරුණයෙක් නොවැ. එයාගේ මූණ, එයා හරි අහිංසකයි. එයාගේ ඇස් දෙක බැබළෙනවා. අනේ මේ වගේ කෙනෙක් ඇයි මේ දඬුවමට අරගෙන යන්නෙ. අර රාජපුරුෂයො එයාගේ ඇඟ පුපුරන්න කසයෙන් තළනවා. ඇයි එයාට මෙහෙම කරන්නෙ, මේ වගේ අහිංසකයෙක් මොන වරදක් කරලාද කියලා මේ බොලඳ ගෑණු දරුවාගේ හිත අර මරන්න දක්කගෙන යන මිනිහාට බැඳුනා. දැන් මේ සිටුදුවක්. තරුණ වයසේදී තරුණ වයසට එනකල්ම අතට පයට නෑ කියලා දෙයක් නැතිව හිටපු කෙනෙක්. දෙමව්පියොත් එක්ක හුරතලේට හැදිච්ච ළමයෙක්. බරක් පතලක් තේරෙන් නැති කෙනෙක්. මෙයා පැනගෙන දුවගෙන ගියා අම්මයි තාත්තයි ළඟට. අම්මයි තාත්තයි ළඟට ගිහිල්ලා කෑගහගෙන වැටුනා. වැටිලා කිව්වා අම්මේ තාත්තේ මට ජීවිතෙන් වැඩක් නෑ, ආන්න මගේ උරුමක්කාර පුරුෂයා, මගේ ස්වාමිපුරුෂයා මගේ උපතින් ලැබිච්චි මගේ ස්වාමිපුරුෂයා මගේ හදවත බැඳී ගියපු මනුස්සයා අන්න මරන්න එක්ක යනවා. කාටවත් මේ මගේ දුක තේරෙන්නැද්ද කියලා ඉතින් මෙතන මහා ජංජාලයක් කලා මේ දරුවා. මේ දරුවා දැන් බිම හැප්පි හැප්පී අඬනවා. කරන්න දෙයක් නෑ. ඔළුව බිම ගහගන්නවා ලේ එනකල්. අම්මටයි තාත්තටයි කරන්න දෙයක් නෑ, අම්මයි තාත්තයි කල්පනා කලා මේ මොකක්ද මේ අපිට වෙච්චි නස්පැත්තිය. මේ සිටුදුවගේ තාත්තා ඒ මහාසිටුතුමා ඔළුවේ අත්බැඳගෙන කල්පනා කරනවා හයියෝ මොකක්ද අපි දැන් කරන්නෙ. මේ සුකුමාල දරුවෙක් ඉන්න දෙමව්පියො, ඒ කියන්නෙ මේ පුංචි කාලෙ ඉඳලා සුකුමාල විදියට හැදිලා කිසි මේරිල්ලක් නැති දරුවො හිටපුවාම දෙමව්පියො හරි අසරණ වෙනවානෙ. දැන් දෙමව්පියන්ට මෙයාට කරුණු තේරුම් කරන්නත්

බෑ. කිව්වාට තේරුම් ගන්නෙත් නෑ. අවසානයේ මේ සිටුතුමා තීරණය කලා ඒ තරුණයාව බේරගන්න ඕන. තමන්ගේ ධන සම්පත් වල බලයෙන් අර තරුණයාව බේරගත්තා. ඒ තරුණයාව ගලවගත්තා. ඒ තරුණයා වෙනුවට වෙන කෙනෙකුගේ හිස ගස්සවලා ඝාතනය කරන තැනට කටයුතු සිද්ධ කලා. ඒ සිටුතුමා ධන බලයෙන් එහෙම කරලා බේරගත්තෙ තරුණ වයසෙ හොරදෙටුවෙක්. ඒ හොරදෙටුවාව එකතු කරගෙන ඇවිල්ලා ඒ හොරදෙටුවාව තමන්ගේ සිටු නිවසේම නවත්ත ගත්තා. මොකද මේ මිනිහාට එළියට බහින්න දෙන්නත් බෑ, කවුරුහරි හඳුනාගත්තොත් එහෙම නැති ප්‍රශ්නයක් ඇති වෙනවා. ඒ නිසා දුවගේ සතුට වෙනුවෙන් මේ හොරදෙටුවාව ගෙදර නැවැත්තුවා. ඒ හොරදෙටුවාව නෑව්වා. කස පහර වැදිලා තුවාල වෙලා තිබ්බ තැන් වලට බෙහෙත් කලා. රජකුමාරයෙක් වගේ සැරසුවා. සරසලා කාටත් හොරා ගේ ඇතුලේම විවාහ මංගල්‍යය උත්සවය කරලා ගේ ඇතුලේම බන්දලා දුන්නා. දැන් අර සුකුමාල සිටුදුවට සන්තෝසෙ. හරී සතුටුයි, ඇය ගොඩාක් පතිභක්තියෙන් යුක්තව මේ සොරදෙටුවා තමන්ගේ ස්වාමිපුරුෂයා කරගෙන ඔහුව සතුටු කරන්න උත්සාහ කරනවා. ඔහුගේ සතුට වෙනුවෙන් මේ සිටුදුව දවසින් දවස ආභරණ මාරු කරනවා, දවසින් දවස ලස්සන ඇඳුම් වලින් සැරසෙනවා. මෙහෙම තමන්ගේ ස්වාමිපුරුෂයාව සතුටු කරන්න මහන්සි ගත්තා. එතකොට මේ ස්වාමිපුරුෂයාත්, මේ හොරදෙටුවාත් ඈ රැවටිලා යන විදියේ චාටු බස් හැමතිස්සේම කියනවා. අනේ ඔයා තමයි මට දෙවියෝ එවාපු මගේ දෙව්දූ. ඔයා හින්දා තමයි මගේ ජීවිතය අද තියෙන්නෙ. එහෙම කිය කිය කියනවා. හැබැයි කටින් එසේ කිව්වත් මේකාගේ ඇතුලේ තිබුනේ වෙනම එකක්. කටින් එසේ කියන මේකා දවසින් දවස බලනවා, ලස්සන මුතු මාලයක් එක දවසක. අනිත් දවසේ ලස්සන රන් මාලයක්. මුතු තැල්ලක්, රන් තැල්ලක්, ලස්සන පබළු වලින් කරපු වළලු, මේ සිටු මන්දිරයක එකම සිටු දුවගේ ස්වාමිපුරුෂයා බවට පත්වෙලා හිටියත්, මේකට ආපු අර හොර තක්කඩි ගතිය ඒක හිතේ තියෙනවා. ඒක අතහැරගන්න බෑ, අවසානෙ මේ පුද්ගලයා හෙමිහිට දවස දෙක තුන ගතවෙනකොට, මාසෙ හමාර ගතවෙනකොට හෙමීට හෙමීට හිත ඇතලේ උප්පරවැට්ටියක් හදනවා මේ කාන්තාවගෙන් බේරිලා, මේ සිටු මන්දිරයෙනුත් බේරිලා සිටු මන්දිරයේ තියෙන ධන සම්පත් ටිකත් අරගෙන පැනගන්න විදියක්. බලන්න මේ අසත්පුරුෂයා කියන පුද්ගලයා, ඒ කියන්නෙ ගුණය හඳුනන්නෙ නැති පුද්ගලයා, මැරෙන්න හිටපු සොරදෙටුවෙක් අනේ බේරගත්තෙ අහිංසක ආදරයක් නිසා හදවත් වලින් පටලැවිලා ගියපු මේ

මොකුත් තේරෙන්නෙ නැති අහිංසක දුවක් නිසානෙ. ඈ නිසා ජීවිතය ලබපු එකාට ඔක්කොම අමතක වුනා. ඒකනෙ නුවණැත්තො කිව්වෙ දියෙහි යන දණ්ඩට පිහිටක් වෙතත් පෙර සිට, දුදනන් හට පිහිට නොවවී යන බස සැබෑ කලේ මට. මේ වතුරේ ගහගෙන යන දණ්ඩකට පිහිට වුනාට කමක් නෑ, ඒ දණ්ඩ ගොඩගත්තාට කමක් නෑ, හැබැයි ඒ අජීවී දණ්ඩ ගොඩ ගත්තත් සජීවීව ඉන්න දුර්ජනයෙක්ව නම් ගොඩ ගන්න එපා. මොකද ඒකා ගොඩගත්තොත් එහෙම ඒකා විසින්මයි ගොඩ ගත්ත කෙනාව විනාශ කරන්නෙ. මේ නුවණැත්තන්ගේ වදන්. නුවණැත්තන්ගේ වදන් කොච්චර සත්‍යයක්ද කියලා තේරෙනවා පින්වත්නි, මේ පුවත් අහනකොට. මේ භද්‍රාකුණ්ඩලකේසාව, ඇත්තටම මේ වෙනකොට ඈව ආමන්ත්‍රණය කලේ භද්‍රාව කියන නමින් විතරයි. කුණ්ඩලකේසා බවට පත්වෙන්නෙ පස්සේ. භද්‍රා කියලා කියන්නෙ පින්වතුනි, පාලියෙන් මාගධී භාෂාවෙන් සුන්දරී කියන නම. ඒ කාලෙ දූලාට දෙමව්පියො ඉතින් දූ පොඩ්ඩට දාපු නම ගොඩාක් වෙලාවට ඔය වගේ නමක්. දැන් අද වුනත් දෙමව්පියො තමන්ගේ දූලාට කතා කරනවානෙ මැණික කියලා එහෙම. අන්න ඒ වගේ ඒ කාලෙ පාවිච්චි කරපු නමක්, භද්‍රා. මේ භද්‍රාව දවසින් දවස, දවසින් දවස ආභරණ මාරු කර කර මේ සොරදෙටුවාට පෙන්වනකොට මේ සොරදෙටුවා හිතුවා මෙයා ගාව නම් හොඳ වස්තුවක් තියෙනවා. මං මේ වස්තුව ඔක්කොම එකවර ගන්නේ කොහොමද. ඔන්න මනුස්සයා මාස ගාණක් හිතලා හිතලා පැලෑනක් හැදුවා. දැන් ඔන්න මේ සිටුදූත් එක්ක මේ මනුස්සයා අමනාප වෙලා වගේ ඇඳේ වැතිරිලා කරබාගෙන ඉන්නවා. සිටුදුව ඇවිල්ලා ආදරෙන් කතා කලත් කණස්සල්ලෙන්ම ඉන්නවා. අර තිබුනු ප්‍රබෝධමත් බව, ප්‍රියමනාප බව නැතිව ගියා. සිටුදුවට හරී දුකයි, තමන්ගේ ස්වාමිපුරුෂයාට ඇයි මෙහෙම වුනේ. ඇය අහනවා, අනේ ප්‍රිය ස්වාමී මට කියන්න. මගෙන් වරදක් වුනාද, එහෙම නැත්නම් මගේ දෙමව්පියන්ගෙන් වරදක් වුනාද. සිටු මන්දිරේ ඉන්න වෙන කාගෙන්හරි වරදක් වුනාද. ඇයි මෙහෙම දුක සේ ඉන්නෙ, ඔයා දුකසේ ඉන්නකොට මට වාවන්නෙ නෑ. ඇය කියනවා. ඒ කියනකොට මේ පුද්ගලයා කියනවා අනේ සොඳුරී මං මේ කල්පනා කලේ මට මේ දවස් ගාණක ඉඳලා එක දිගට හීනයක් පේන්න ගන්නවා. ඒ හීනෙ පේනකොට මට මං ගැනත් බයයි. මට ඔක්කොටම වඩා බය ඔයා ගැන. මගේ ජීවිතේට මොනවාහරි වුනොත් ඔයාට මොනවා වෙයිද. ඒකයි මට කණගාටු කියලා. ඊටපස්සෙ ඇහුවා, ඔයාට පේන හීනෙ මොකක්ද. මට පේන්නෙ චෝර ප්‍රපාතයේ ඉන්න දේවතාවා කිව්වා. දැන් මේ හොරදෙටුවාට දඬුවම දීලා තිබුනේ චෝර ප්‍රපාතයෙන් පහළට හෙළන්න. ඒ

කාලෙ තිබ්බ දඬුවමක්. චෝර ප්‍රපාතය කියලා ඒකට කියන්නේම හොරු තල්ලු කරන කන්ද. කන්ද මුදුනට හොරාව එකතු කරගෙන ගිහිල්ලා ඒකෙන් පහලට තල්ලු කරනවා. මේ පුද්ගලයා දැන් කියනවා, ඔය චෝර ප්‍රපාතයේ දේවතාවෙක් අධිගෘහිතව ඉන්නවා. මං මරන්න එකතු කරගෙන යනකොට චෝර ප්‍රපාතය දිහා බලලා මම අධිෂ්ඨානයක් කලා හිතින්. බලන්න බොරු ගොතන හැටි. මම අධිෂ්ඨානයක් කලා මේ චෝර ප්‍රපාතයේ යම් දේවතාවෙක් ඉන්නවා නම් අනේ මං වැරැද්දක් කරපු කෙනෙක් නෙවෙයි, මං මේ අහක යන හොරකමකට අහුවෙලා, මාව බේරගන්න. මාව බේරගත්තොත් එහෙම මං ඔබ වහන්සේට ලොකු පූජාවක් කරනවා කියලා. එතකොට ඒ චෝර ප්‍රපාතයේ හිටපු දෙවියා දැකලා තමයි ඔයාව මාව බේරගන්න එව්වෙ. ඔයා තමයි දෙවියෝ එවපු කෙනා. ඒ නිසා දැන් ඒ දෙවියා මේ භාරය ඔප්පු කරපං, භාරය ඔප්පු කරපං කියලා මට හීනෙන් පෙනි පෙනී කියනවා කිව්වා. දැන් එතකොට මේ සිටුදුව මේ ඔක්කොම පිළිගත්තා. ඇය කිව්වා ඉතින් ප්‍රිය ස්වාමී, අපි සිටුවරු නොවැ. අපිට ඕනතරම් ධනය තියෙනවා නොවැ. අපි ගිහිල්ලා දෙවියන්ගේ භාරය අද වුනත් ඔප්පු කරමු කිව්වා. එතකොට මොහු කියනවා මම භාරය සිද්ධ කලේ මම භාරය විදියට පොරොන්දු වුනේ ආභරණ පූජාවක් කරන්න. වටින වටින ආභරණ පූජා කරන්නයි මං භාරය පොරොන්දු වුනේ. ඉතින් අපිට කොහෙන්ද දෙවියන්ට භාරය ඔප්පු කරන්න තරම් ආභරණ කිව්වා. අනේ මේ අහිංසක සිටුදුව, ඈ කියනවා ඉතින් ප්‍රිය ස්වාමී මා සන්තකයේ කොච්චර ආභරණ තියෙනවාද. හැමදාම ඔයා වෙනුවෙන් අලුත් අලුත් ආභරණ වලින් සැරසි සැරසී මං ආපු ආභරණ, ඒ ඔක්කොම මගේ ගාව තියෙනවානෙ. ඔයා වෙනුවෙන් මං ඒ ඔක්කොම ආභරණ හරි දෙවියන්ට පූජා කරන්න කැමැතියි කිව්වා. සතුටු වුනා. ඉතින් කතා වෙලා දැන් ඔන්න ඒ ගමනට යන්න ලැහැස්තියි. දෙමව්පියො කලබල වුනා. අම්මා තාත්තා දෙන්නා කලබල වුනා. තනියෙන් යන්න දෙන්න බෑ, යං අපි දෙන්නාත් එනවා කියලා. එතකොට මේ පුද්ගලයා කියනවා මං දෙවියන්ට පොරොන්දු වුනේ මං විවාහ වෙන ස්ත්‍රියත් එක්ක විතරයි එන්නෙ කියලා. දෙවියො කැමැති වෙයිද දන්නෑ කිව්වා. ඊටපස්සෙ ඔන්න අම්මයි තාත්තයි දෙන්නත් නැවතුනා. දැන් මේ භද්‍රාවයි, මේ සොර දෙටුවායි, ආභරණ පොට්ටනියකුත් අරගෙන මේ කන්ද නගිනවා, චෝර ප්‍රපාතය. මේ චෝර ප්‍රපාතය කියලා කියන්නෙ පින්වතුනි උස කන්දක්නෙ ඉතින්. අනිත් එක ඒ කන්දෙන් කෙනෙක් වැටෙනකොට මග බේරෙන්න අවකාශයක් නැති කන්දක්. එහෙම කන්දකින් තමයි මේ හොරුන්ව හෙළන්නෙ. ඉතින් ඒ කන්ද මුදුනට මේ

දුර ගමනක් ගිහිල්ලා නැති සුකුමාල සිටුදුවත් දැන් බොහෝම අමාරුවෙන් කන්ද උඩට තරණය කරනවා. කන්ද උඩට ගියාට පස්සෙ කඳු මුදුනේදී මැයට හරීම මහන්සියි. මැය තමන්ගේ ප්‍රිය ස්වාමියාට, මේ හොරදෙටුවාට කියනවා අනේ ස්වාමීනී අපි දැන් උඩටම ආපු එකේ භාරය ඔප්පු කරන්න කලින් ටිකක් විවේක ගමු. විවේක අරගෙන අවසන් වුනාට පස්සෙ අපිට පුලුවන් භාරය ඔප්පු කරන්න මට හරී මහන්සියි කිව්වා. එතකොට මේ කඳු මුදුනට වෙලා ඉන්නෙ දැන් ඇයත් ඇගේ ස්වාමිපුරුෂයාත් විතරයි. ඇගේ ස්වාමිපුරුෂයා විදියට, ස්වාමිපුරුෂයාගේ වේසයෙන් ඉන්නෙ මහාම මහා අසත්පුරුෂ අධමයෙක්. මේකා කඳුමුදුනේදී මහා හඬින් හිනාවෙන්න පටන් ගත්තා. හිනහවෙවී කිව්වා උඹ හිතේ හැටියට වෙහෙස ඇරපන්. අදින් පස්සෙ වෙහෙසක් වෙන්නෙ නෑ, මොකද මේ කන්දෙන් පහළට මම විතරයි බහින්නෙ, උඹ පණ පිටින් යන්නෙ නෑ කිව්වා. එතකොට ඇයට ඥාණය පහළ වුනා. ඔච්චර කාලයක් නොතිබ්බ එක. ඔච්චර කාලයක් ජීවිතේ මෙහෙම ධන සම්පත් නැති මහා සිටු කුලයක් ඉපදිච්චි කාන්තාවක් හොරදෙටුවෙක් විවාහ කරගන්න තරම් බොලඳ වුනා, මෝඩ වුනා, ඥාණය පහළ කරගන්න බැරිව හිටියා, මේ සොරදෙටුවා උඩදී මේ කතාව කියනකොට ඇයට ඥාණයක් පහළ වුනා. ඇය ඉතින් පශ්චිමභවික තැනැත්තියක්නෙ, මේ අවසාන ජීවිතේනෙ. ඒ නිසා වෙන්න ඇති ඇයට ඒ මොහොතේම හරි අපූරු ඥාණයක් පහළ වුනා මේ ගැටයෙන් බේරෙන්න. ඇයට තේරුනා මේකා මහා අසත්පුරුෂයෙක්, අධමයෙක්, කරපු උපකාරය හඳුනන්නෙ නැති එකෙක්. ඇය තීරණය කරනවා, මෙතනින් මං බේරෙනවා. ඇය බොහොම ආදර ගෞරව ඇතිව අර සොරදෙටුවාට කියනවා මා ප්‍රිය ස්වාමී ඔයා මට ආදරේ කලත් නැතත් මං ඔයාට ආදරේ කලා. ඔයා මාව මෙතනදී ඝාතනය කරනවා නම් ඝාතනය කරන්න. ඔයාගේ අතින් මැරෙන එකත් මට සැපයි. හැබැයි මරණයට පත්වෙන්න කලින් මං කැමැතියි ඔයාව බොහෝම ආදරයෙන් බිරිඳක් විසින් ස්වාමිපුරුෂයෙකුට කරන ආදර ගෞරවය අවසන් වතාවට දක්වන්න. එහෙම කියනකොටවත් මේකගෙ හිත උණුවුනේ නෑ. ආඩම්බරකමක් ආවා. ආ එහෙනම් නුඹගේ ඒ විකාර ආදරය පෙන්නාපන් කිව්වා. එතකොට මේ භද්‍රාව මේ සොරදෙටුවා වටේ පැදකුණු කරන්න පටන් ගත්තා. මේ ගෞරව දක්වන ක්‍රමයක්නෙ පින්වතුනි. අතීතෙ ඉඳලා එන ගෞරව දක්වන ක්‍රමයක්, පැදකුණු කිරීම. දැන් අපි සෑය බෝධියත් ප්‍රදක්ෂිණා කරන්නෙ. ඒ ගෞරව දක්වන ක්‍රමය. දැන් මැයත් ඔන්න එක වටයක් මේ මනුස්සයාගේ වටේ ගිහිල්ලා වැන්දා. වඳිනකම් මේ මනුස්සයා නිකං ඔලුවත් අහසට වැඩිපුර

උස්සගෙන මහා උඩඟු ලීලාවෙන් හිටගෙන ඉන්නවා. දෙවෙනි වතාවෙත් මැය පැදකුණු කලා. වැන්දා. දැන් මනුස්සයාට සැකයකුත් නෑ. තුන්වෙනි වතාවේ ඈ පැදකුණු කරන ලීලාවෙන් මේ මිනිහාගේ පිටිපස්සට ගිහිල්ලා පිටිපස්සට ගියපු ගමන් මැයට තියෙන සියලු ශක්තිය අරගෙන මේ පුද්ගලයාව වේගයෙන් තල්ලු කලා. උනේ මොකක්ද කියලා හිතාගන්න බැරිව ගියා. මේ පුද්ගලයා කොහොමත් චෝර ප්‍රපාතය වෙනුවෙන් නියම වෙලා හිටපු එකා. ඒ සොරදෙටුවා මේකෙන් පහළට වැටිලා කෑලි කෑලි මැරිලා ගියා. හැබැයි මරණයට පත්වුනාට මේ සිද්ධිය ඇගේ මුළු ජීවිතේම කඩාවැටෙන්න හේතුවුනා. ඇය ජීවිතේට ආදරේ කලේ එකම එක්කෙනෙකුට. ඒ පුද්ගලයා මහාම මහා අසත්පුරුෂයෙක් කියලා දැනගත්තහම එන වේදනාව. ඇට උහුලගන්න බෑ. ඈ කණකර ආභරණ මේ ඔක්කොම ටික අත්හැරියා. ඇට යළි සිටුමන්දිරයට යන්න සිතක් උපන්නෙ නෑ. ඇය කන්දට සාමාන්‍ය මිනිස්සු නගින්නේ නැති පැත්තකින් හීන් සීරුවේ කැලයට බැසගත්තා. දැන් ඇය ස්වාමිපුරුෂයෙක් නැති කාත් කවුරුවත් නැති ස්ත්‍රියක් විදියට තනියම යනවා. ඒ යනකොට පරිබ්‍රාජිකා ආරාමයක් - ඒ කාලෙ හරියට ඉඳලා තියෙනවානෙ පරිබ්‍රාජික පිරිස. අන්න ඒ පරිබ්‍රාජිකා ආරාමයක් තිබුනා මේ ආරාමයට ඇය ගොඩවැදුනා. ඒ ආරාමයේ ඇයට නවතින්න අවස්ථාව ලැබුනා. දැන් ඇය පරණ ජීවිතය ඔක්කොම අමතක කරලා මේ ආරාමයේ අලුතින් ජීවිතයක් පටන් ගන්නම් කියලා. ඔක්කොම ජීවිතේ එතෙන්ට අවධානය යොමු කලා. මැය හරි දක්ෂයි. ඒ පරිබ්‍රාජිකාවො යමක් උගන්වනවාද ඒ උගන්වන හැමදේම වේගෙන් වේගෙන් වේගෙන් ඉගෙන ගත්තා. පරිබ්‍රාජිකා ආරාමයේ උගැන්නුවේ පින්වතුනි වාදය. වාද දාහක් ඉගැන්නුවා. මෑ වාද දාහම හොඳට ඉගෙන ගත්තා. ඊළඟට ඒ වාද උගන්වන අතරේ තිබිලා තියෙනවා ඒ කාලෙ තිබුනු නොයෙක් ක්‍රම. පින්වතුන්ලා අහලත් ඇති. ඔය නිගණ්ඨයො එහෙම පින්වතුනේ අදටත් මේ වෙනකොටත් දරුණු විදියට නිගණ්ඨ දර්ශනය අදහන නිගණ්ඨයො ඒ විදියට කටයුතු කරනවා. කෙස් දැලි පිහියකින් හෝ කතුරකින් කපන් නෑ, කෙස් ගලවනවා හැබැයි. කෙස් මුඩු කරන් නෑ, කෙස් ගලවන්නේ තල් ඇට වලින් අල්ල අල්ල, කෙස් උදුරලා. කෙස් බානවා කියලා කරන්නෙ දැලි පිහියකින්, කතුරකින් නෙවෙයි. කෙස් උගුල්ලනවා. ඉතින් දුෂ්කර තපසක්. ඒ දුෂ්කර තපස කරන පරිබ්‍රාජිකාවක් විදියට ඈ මේ පරිබ්‍රාජිකා ආරාමයේ ඒකටත් කියනවා පැවිදි වෙනවා කියලා, පරිබ්‍රාජිකාවක් විදියට පැවිද්දට පත්වුනා. ඇගේ හිස මුඩු කලාට පස්සෙ ඒ මුඩු හිසේ ආයෙ කොණ්ඩෙ එනකොට ඒ කොණ්ඩෙ පෙර වගේ කඩාහැලුනෙ නෑ. ඒ

කොණ්ඩෙ කැරලි ගැහුනා. ඒ කොණ්ඩෙ වකුටු වුනා. බොකුටු කොණ්ඩයක් ආපු නිසා, ඒ බොකුටු කොණ්ඩයට කියනවා කුණ්ඩලකේස, අන්න ඔහොම තමයි ඇයට කුණ්ඩලකේසා කියලා කෑල්ලක් එකතුවුනේ. භද්‍රාකුණ්ඩලකේසා. මේ භද්‍රාකුණ්ඩලකේසාවට වාද දාහ උගන්වපු ආචාර්‍යතුමිය කිව්වා දැන් නුඹ මේ වාද ඔක්කොම ඉගෙන ගෙන අවසන්. දැන් උඹට කරන්න තියෙන්නෙ මේ වාදය, මේ ශිල්පය දඹදිව පුරා පතුරන එක. උඹ ජම්බු අත්තක් අරගෙන වාද කර කර, වාද කර කර යන්න ඕන. අද ඉඳලා නුඹේ නම භද්‍රාකුණ්ඩලකේසා නොවෙයි, ජම්බු පරිබ්‍රාජිකාව. දැන් ජම්බුපරිබ්‍රාජිකාව ජම්බු අත්තක් අරගෙන වාද දාහ කිරීම පිණිස නගරයෙන් නගරයට යනවා. ඇය වාදයේ දක්ෂයි. ඇය වාද කරනකොට වාදයට එන එන කෙනා පරදිනවා. අවසානෙ ඔය දඹදිව ඒ කාලෙ ප්‍රසිද්ධ වෙලා තියෙනවා ජම්බු පරිබ්‍රාජිකාව කියලා. ඔය ජම්බු පරිබ්‍රාජිකාව වාද කරගෙන යන අතරෙ සැවැත්නුවරටත් ආවා. සැවැත්නුවරට ජම්බු පරිබ්‍රාජිකාව එනකොට සැවැත්නුවර ඉන්න වාද කරන අයයො සැවැත්නුවර දාලා ගියා. මොකද මේ ජම්බු පරිබ්‍රාජිකාවගේ තිබ්බ ප්‍රසිද්ධිය එහෙම එකක්. ඈත් එක්ක වාද කලොත් එහෙම අනිවාර්යයෙන් පරදිනවා. පැරදුනොත් එහෙම අර තමන් හදාගත්ත නම ඉවරයි. ඒ නිසා ඈ සැවැත්නුවරට එනවා කියලා ආරංචි වුනාම, වාද කර කර සතුටු වෙච්චි අයයො සැවැත්නුවර දාලා හෙමීට මාරුවුනා. ඈ සැවැත්නුවරට ඇවිල්ලා සැවැත්නුවර ප්‍රධාන තැනක ජම්බුඅත්ත හිටෙව්වා. හිටවලා ජම්බු අත්ත ළඟ ඉඳලා කිව්වා කව්රුහරි මගෙත් එක්ක වාද කරන්න කැමැති නම් මේ ජම්බු අත්ත පෙරළන එකයි කරන්න තියෙන්නෙ, ඒ පෙරලපු කෙනාට මාත් එක්ක වාද කරන්න සැරසෙන්න වෙයි. ඔය වෙලාවේ මේ බුද්ධ ශාසනයේ අපගේ මහා කාරුණික ශාස්තෲන් වහන්සේට පසු ප්‍රඥාවෙන් අග්‍රේෂ්වර මුණිඳු ඇහැල මලේ පැහැයෙන් බබළන සුන්දර සිරුරක් ඇති මුණිඳු අහසින් කඩා හැලෙන වර්ෂාවේ වැහි බිඳු ගාණ ගණන් කරන්න පුළුවන් තරම් අද්භූත ප්‍රඥාවක් ඇති මුණිඳු අපගේ සාරිපුත්ත මහරහතන් වහන්සේ පිණ්ඩපාතෙ වැඩියා. පිණ්ඩපාතෙ වැඩම කරනකොට මේ ජම්බු අත්තක් හිටවලා තියෙනවා පේනවා. එතන දරුවො ටිකක් හිටියා. සාරිපුත්ත රහතන් වහන්සේ දරුවන්ගෙන් ඇහුවා, දරුවනේ මේ ජම්බු අත්ත මොකක්ද. ඒ දරුවො ටික විස්තරය කිව්වා. සාරිපුත්ත මහරහතන් වහන්සේ කියනවා එහෙනම් දරුවනේ ඕගොල්ලො මේ ජම්බු අත්ත පෙරලලා දාන්න, ජම්බු අත්ත විසික් කරලා දාන්න කිව්වා. එතකොට කිව්වා භාපෝ ස්වාමීනී ඔය ජම්බු අත්ත විසි කරපු කෙනා අර ජම්බු පරිබ්‍රාජිකාවත් එක්ක වාද කරන්න

ඕන. අපට නම් බෑ එයත් එක්ක වාද කරන්න කිව්වා. කිව්වා නෑ නෑ දරුවනේ වාදය කරන්නේ මමයි, වාදය මම කරන්නම්, ඕගොල්ලො ජම්බු අත්ත විසි කරන්න කිව්වා. යම් මොහොතක ජම්බු පරිබ්‍රාජිකාව ඇසුවොත් එහෙම මං අසවල් රුක් සෙවණේ ඉන්නවා, ඇයට එතනට එකතු කරන් එන්න කිව්වා. ඉතින් ඔහොම ජම්බු පරිබ්‍රාජිකාවට සාරිපුත්ත මහරහතන් වහන්සේත් එක්ක වාද කරන්න සිද්ධ වුනා. ඇය ඇගේ වාද දාහම ඉදිරිපත් කරනවා, එකින් එක එකින් එක වාද ඉදිරිපත් කරනකොට ඒ වාද සිඳී ගියේ මහා ජවසම්පන්න හස්පීරාජයෙක් ඉතා සුවසේ කිසි වෙහෙසකින් තොරව නෙළුම් දඬු කඩලා දානවා වගේ සාරිපුත්ත මහරහතන් වහන්සේගේ විස්මයජනය ප්‍රඥාව ඉස්සරහා වාද ඔක්කොම සුණුවිසුණු වෙලා ගියා. වාද දාහම පැරදුනා. වාද දාහම පරාජයට පත්වුනාට පස්සෙ ඈ බිම බලාගත්තා. ඇය බිම බලාගෙන කියනවා, ස්වාමීනී ඔබ වහන්සේ ශ්‍රමණයන් වහන්සේ නමක්. මට මගේ ගුරුවරිය ඉගැන්නුවේ යම් අයුරකින් මේ වාදය යම් දවසක කෙනෙක් මේ වාද කරන එකෙන් ජයගත්තොත් ඔහු ගිහි ජීවිතේ ගත කරන පුරුෂයෙක් නම් නුඹ ඇයට සේවා කටයුතු කරන සේවිකාව විය යුතුයි. නුඹ වාදයෙන් පරද්දන්නේ ශ්‍රමණයෙක් නම් ඒ ශ්‍රමණයා ළඟ මහණ විය යුතුයි. මට එහෙමයි ඉගැන්නුවෙ. ස්වාමීනී ඒ නිසා මං දැන් වාදයෙන් පැරදුනා. මගේ වාදය ඉවරයි. මං ඔබ වහන්සේව සරණ යනවා කිව්වා. එතකොට සාරිපුත්ත මහරහතන් වහන්සේ බුද්ධ ශාසනයේ පහළ වෙච්චි සැබෑම රහතන් වහන්සේලා, බලන්න මේ සැබෑම රහතන් වහන්සේලාගේ වෙනස. සාරිපුත්ත මහරහතන් වහන්සේ කියනවා නැගණිය නුඹ මාව සරණ යා යුත්තේ නැත. නැගණිය මාද සරණ ගියේ මේ ලෝකයට මහා අනුකම්පාවෙන් පහළ වෙච්චි මහා ශාස්තෘන් වහන්සේ වන ඒ භාග්‍යවත් අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේය. නැගණිය ඔබත් ඒ බුදුරජාණන් වහන්සේව සරණ යන්න. අන්න එහෙම කිව්වා. ඉතින් බුදුරජාණන් වහන්සේව සරණ යන්න කිව්වහම ඇය අහනවා පින්වත් ශ්‍රමණයන් වහන්ස, ඒ ඔබවහන්සේ සරණ ගියා වූ මහා කාරුණික බුදුරජාණන් වහන්සේ මේ වෙනකොට කොහේද වැඩ සිටින්නේ. සාරිපුත්ත මහහරහතන් වහන්සේ භාග්‍යවතුන් වහන්සේ සැවැත්නුවර ජේතවනාරාමයේ වැඩ සිටිනා බව පැවසුවා. ජම්බු පරිබ්‍රාජිකාව බුදුරජාණන් වහන්සේ සමීපයට යනවා. භාග්‍යවතුන් වහන්සේගේ උතුම් සිරිපා කමල් යුග ඈ වන්දනා කලා. බුදුරජාණන් වහන්සේ ඇයට උතුම් මිහිරි ශ්‍රී සද්ධර්මය දේශනා කලා. ඒ උතුම් සද්ධර්ම දේශනාව අසා අවසන් වෙනකොටම ඇය සියලු කෙලෙසුන් නසා රහත්

තෙරණීන් වහන්සේ නමක් බවට පත්වුනා. අන්න ඒ මොහොතේ මේ භද්‍රාකුණ්ඩලකේසාව අරඹයා තමයි බුදුරජාණන් වහන්සේ මේ ලස්සන ගාථා වදාළේ. යෝ චෙ ගාතා සතං භාසෙ අනත්ත පද සංහිතා ඒකං ධම්ම පදං සෙය්‍යා යං සුත්වා උපසම්මතෙ - සියයක් ගාථා කිව්වත් හැඩ කොට ඵලයක් නෑ එහි අරුතක් නැති විට, එකම දහම් පදයක් දැනගත් විට අකුසල් දුරුවී යයි නම් එම විට යහපත ඇති කරනා විට එලෙසට උතුම්ය එක් දම් පදයක් එම විට. දැන් බලන්න ඒ ජම්බු පරිබ්‍රාජිකාවට වාද දාහක් ඉගෙන ගන්න ලැබුනා, හැබැයි ඒ වාද දාහ ඉගෙන ගත්තා කියලා පටලැවුනා මිසක් ආඩම්බර කමක් හටගත්තා මිසක්, කෙලෙස්ම වැඩුනා මිසක් සැනසීමක් ලැබුන් නෑ. හැබැයි ඇය බුදුරජාණන් වහන්සේගෙන් එකම එක බණ පදයක් ඇහුවා. ඒ බණ පදය අහනකොටම සැනසුනා. මුළු ජීවිතේම දිනුවා. යෝ සහස්සං සහස්සේන සංගාමෙ මානුසෙ ජිනෙ ඒකං ච ජෙය්‍ය අත්ථානං සවේ සංගාම යුත්තමො - දහසක් යුද කරමින් ලොව කිසිවෙක් ඒ යුද දහසම ජයගෙන සිටියත්, එලෙසින් දහසක් මිනිසුන් පරදා ජය පැන් බීමෙන් සතුටුව සිටියත්, කෙලෙසුන් සමඟින් යුද වැදි කෙනෙකුන් ජය ගන්නේ නම් සිත ඇති කෙලෙසුන්, එලෙසින් ජය ගත් විට ඔහු මෙලොවේ සැබැවින් එය උත්තම දිනුමක් වේ. අන්න ඒ විදියටයි ශාස්තෘන් වහන්සේ හැබෑම ජයග්‍රහණය, හැබෑම ජයගැනීම ගැන වදාළේ. හැබෑම ජයගැනීම කියලා කියන්නෙ මොකක්ද, ජීවිතය අවබෝධ කිරීම. ජීවිතය අවබෝධ කලොත් තමයි සැනසිල්ල. අනිත් මොන දේ දිනුවත් පින්වතුනි සදාකාලික සැනසීමක් නම් නැත. හැබැයි ජීවිතය අවබෝධ කලොත් ඒ සැනසිල්ල සදාකාලිකයි. ඉතින් ඒ භද්‍රකුණ්ඩලකේසා තෙරණිය සදාකාලික සැනසීම වන අර්හත්වයට පත්වෙලා ඇයත් පිරිනිවන් පානා සමය වෙනකොට ඒ අවසාන කාලෙ ඇය ගාථා වදාළා. මං ඉස්සර ගතකලේ පුදුම ජීවිතයක්. තල් ඇට වලින් ඔලුවේ කෙස් ඉදිරුවා. දත් මැද්දෙ නෑ, එක රෙද්දක් විතරක් ඇඳගෙන ජීවත් වුනේ. ඒ කාලෙ මං හරි දේ දැක්කෙ වැරදි දේ හැටියට. වැරදි දේ දැක්කෙ හරි දේ හැටියට. එදා දවල් කාලෙන් පස්සෙ ගිජ්ඣකූළ පව්වෙන් පහළට වඩින භික්ෂු සංඝයා පිරිවරාගත්තු බුදුරජාණන් වහන්සේව දැකගන්න ලැබුනා. මං බුදු සමිදුන් ඉදිරියට ගියා, බිම දණ නමාගෙන ඇඟිලි බැඳගෙන වන්දනා කලා. පින්වත් භද්‍රා මෙහාට එන්න කියලා උන්වහන්සේ මට වදාළා, ඒක තමයි මගේ උපසම්පදාව. මං ඉස්සර ඇවිදගෙන ගියේ අංග, මගධ, වජ්ජී, කාසි, කෝසල ජනපද වල. දැනුත් මං එහේ ඇවිදිනවා. දැන් යන්නේ ණය රහිතවයි, රහත් භික්ෂුණියක් හැටියට පිණ්ඩපාතෙ වළඳන්න අරගෙන දැන් පනස් අවුරුද්දක්

වෙනවා. අර්හත්වයට පත්වෙලා අවුරුදු පනහකට පස්සෙ මේ ගාථා වදාළේ. ඒ ගාථා අවසන් වෙන්නෙ මෙහෙම. මේ ශ්‍රද්ධාවන්ත උපාසක මහත්තයා ඇත්තෙන්ම ගොඩාක් පින් රැස් කරගත්තා, සියලු කෙලෙස් වලින් නිදහස් වුනු භද්දා භික්ෂුණියටයි ඔය සිවුර පූජා කරගත්තෙ. ඉතින් ඒ උත්තමාවියට උපාසකයෙක් සිවුරක් පුදලා. ඒ සිවුරක් පුදපු පිනේ ආනිසංසය ඇය වර්ණනා කරනවා. ඇයි හේතුව, ශ්‍රාවක සඟරුවනට අපි කියනවා අනුත්තරං පුඤ්ඤක්ඛෙත්තං ලෝකස්ස - ලෝකයේ පින් කැමැති අයට අග්‍ර වූ පින් ඵල නෙලාගැනීමට තියෙන පුණ්‍ය ක්ෂේත්‍රය, පින් කෙත ශ්‍රාවක සඟරුවනයි. ඉතින් ඒ පින් කෙත, ශ්‍රාවක සඟරුවන සිහි කරනකොට මේ භද්‍රාකුණ්ඩලකේසා අර්හත් තෙරණියත් ඒ ශ්‍රාවක සංඝයා අතරේ කෙනෙක්. අනිකුත් රහත් තෙරණින් වහන්සේලාත් ශ්‍රාවක සංඝයා අතරේ වැඩහිටියේ. සියලු රහතන් වහන්සේලා උතුම් ශ්‍රාවක සඟරුවනටයි අයිති වෙන්නෙ. ඉතින් ඒ උතුම් මහා රහතුන්ට, මහරහත් තෙරණින් වහන්සේලාට නමස්කාර කරමින් වන්දනා කරමින් විශේෂයෙන් අද දවසේ අපි චරිතාපදානය ඉගෙන ගත්තේ මේ බුද්ධ ශාසනයේ වහා ධර්මාවබෝධ කරපු භික්ෂුණීන්ට අග්‍ර වූ භද්‍රාකුණ්ඩලකේසා අර්හත් තෙරණිය ගැන. ඒ මහරහත් තෙරණින් වහන්සේටත් නමස්කාර කරමින් අපිත් අධිෂ්ඨාන කරමු අපිටත් මේ බුදු සසුන මුණගැහිච්චි ජීවිතය සුවසේ පින් පුරාගෙන, සුවසේ දහම් මග දියුණු කරගෙන ඒ මහරහතුන්, රහත් තෙරණි වරුන් නිවී සැනසුනු අමා නිවනේ සැනසෙන්න අපිටත් වාසනාව ලැබෙන්වා, සාදු සාදු සාදු!!!

අප රැස් කලා වූ සියලූම පින් සියලු දෙවියෝ සතුටින් අනුමෝදන් වෙත්වා, දෙවියෝ පින් අනුමෝදන්ව දිව්‍ය සැපයෙන් වැඩෙත්වා, ඒ සියලු දෙවියන්ගේ ආරක්ෂාව රැකවරණය උපකාරය අප හැමදෙනා හට දෙවියෝ නොඅඩුවම සලසා දෙත්වා. දෙවියෝද සංසාර දුකින් අතමිදෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කල සියලු පුණ්‍ය ධර්මයන් මාගේ ගුරුදේවොත්තම අප හැමදෙනාගේ කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව නිරෝගීව දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. ගෞතම ශාසනය තුළ උතුම් වූ චතුරාර්ය සත්‍ය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද දවසේ මේ උතුම් ධර්ම දානමය පින්කම සිදු කරන උපන්දිනය සමරන ශාක්‍යා ශ්‍රීදේවී රුවන්පතිරණ මහත්මියට මේ සියලු පින්වල ආශිර්වාදය, තෙරුවනේ ආශිර්වාදය, සියලු දෙව් දේවතාවුන් වහන්සේලාගේ

ආශිර්වාදය නොඅඩුවම ජීවිතයට සැලසේවා. තමන්ගේ ජීවිතයේ සියලු යහපත් අදහස් සමෘද්ධිමත් වේවා. කල්‍යාණ මිත්‍ර ඇසුරේ සුවසේ පින් පුරන්න, සුවසේ ගුණදහම් දියුණු කරගන්න අවකාශ තවදුරටත් ලැබේවා. මේ ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබෙන්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. මෙල්බර්න් හි වෙසෙන ශාක්‍යා ශ්‍රී දේවී රුවන්පතිරණ මහත්මියගේ නමින් මියපරලොව ගිය පින්වත් කේ. රාමනායක, විමලාවතී කුලතුංග, සියලු අත්තම්මලාට, ඩේවිඩ් ගුණසේකර, ඒ රුවන්පතිරණ, ඒ. රණතුංග යන සීයලාට, මාලනී දිසානායක සහ පියසේන විදානගමාච්චී යන දෙමාපියන්ට, රතාශාන් ප්‍රේමරත්න සොහොයුරාට මේ හැමදෙනාට මේ සියලු පින් අනුමෝදන්ව ඒ වගේම නමින් මියපරලොව ගියා වූ සියලු ඥාතී හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන්ව ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා, ඒ සියලු ඥාතීන් මේ දුක් සහිත වූ සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදනාව සිදු කරන්න. සුජීවත්ව සිටින ශාක්‍ය රුවන්පතිරණ, නිසල් විමුක්ති, නන්දසිරි රුවන්පතිරණ පියාණන්ට, මංගලා මෑණියන්ට, මුදලිගේ ආරියපාල පියාණන්ට, මාලනී මුදලිගේ මෑණියන්ට, කාංචනා, භානුක, චරිත්, කෙන්සි, චලනි, ප්‍රණීතා යන ඒ සොහොයුරියන්ට, ස්වර්ණමාලී, සාරානාත්, තසිත්, සනුක, අකිලේශියා, නික්ලේශ් යන දූදරුවන්ට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා. ඒ පවුලේ හැමදෙනාට පින් අනුමෝදන් වෙලා සියලු දෙනාට නිදුක් නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සැලසේවා, ජීවිතේ කරන කියන රැකී රක්ෂා ආදි සියලු කටයුතු සර්වප්‍රකාරයෙන් සමෘද්ධිමත් වේවා, ඒ නම් සඳහන් කරපු පවුලේ දූදරුවෝ හැමදෙනාට, අධ්‍යාපන කටයුතු ආදිය සර්වප්‍රකාරයෙන් සාර්ථක කරගන්න ලැබේවා. හැමදෙනාගේ ජීවිත වලට යහපත සළසන කල්‍යාණමිත්‍ර සත්පුරුෂ උතුමන්ගේ ඇසුර ලැබේවා. ධර්ම දානය සිදු කරපු පින්වතුන්ලාටත්, සුපින්වත් ඔබ හැමදෙනාටත්, ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා රූපවාහිනී කාර්ය මණ්ඩලයේ හැමදෙනාටත් තමන්ගේ ජීවිතයට සුවසේ පින් පුරාගෙන සුවසේ දහම් මග දියුණු කරගෙන මේ ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබේවා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=EiDOgWnaBXA

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු සද්ධර්ම දේශනා මාලාවේ උතුම් ධර්ම දේශනාවක් ශ්‍රවණය කරන්නටයි අද දවසේත් මේ සුපින්වතුන්ලා සූදානම් වෙන්නෙ. පින්වතුනේ මේ බුද්ධ ශාසනය කියන්නෙ හරිම පුදුම සහගත හරිම ආශ්චර්‍යජනක එකක්. මේ බුද්ධ ශාසනය ඇතුලේ දමනය වෙච්චි පුරුෂයො දමනය වෙච්චි ස්ත්‍රීන් ගත්තහම ඒ දමනය හරිම පුදුම සහගත එකක්. අද අපි ඉගෙන ගන්නවා මේ බුද්ධ ශාසනයේ විනයධර භික්ෂුණීන් අතර අග්‍ර භික්ෂුණිය ගැන. මේ බුදු සසුනේ විනයධර භික්ෂුණීන්ට අග්‍ර වුනේ අපගේ පටාචාරා මහරහත් තෙරණින් වහන්සේ. බලන්න බුදු සසුනේ විනයධර භික්ෂුණීන්ට ඇය අග්‍ර වෙනවා. හැබැයි ඇය බුදුසසුනේ පිළිසරණ පිණිස භාග්‍යවතුන් වහන්සේ සමීපයට බුදුරජාණන් වහන්සේව හොයාගෙන ආවෙ ඇගේ නූල්පොටක් වත් නැතිව. කිසි විනයක් නැතිව ඇය ආවෙ. සාමාන්‍ය ලෝකෙ තියෙන සාමාන්‍ය විනයක්වත් සාමාන්‍ය සංවරයක්වත් නැතිව, ඇගේ නූල්පොටක් වත් නැතිව ආපු ඇය බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ අමෘත නිවන පසක් කරගෙන දමනය වුනා. ඇය මේ බුදු සසුනේ විනයධර ශ්‍රාවිකාවන් අතරේ අග්‍ර වුනා. ඒ අසිරිමත් බුදු සසුනේ අසිරිමත් ශ්‍රාවිකාවගේ අසිරිමත් චරිතාපදානය, අද මේ ධර්ම දේශනාවෙන් අහන්නෙ. මේ දේශනාවට දායකත්වය දරනු ලබන්නේ මියපරලොව ගියපු හික්කඩුව ලියනගේ චාර්ලිස් සිංඤෝ පියාණන්ට පින් අනුමෝදනා කරන අදහසින්, නැන්සි ද සිල්වා ආදරණීය බිරිඳ, ජයන්ත පද්මසිරි, ලාල් ප්‍රේමසිරි,

නිහාල් කරුණාසිරි, අජිත් කුමාරසිරි යන ආදරණීය පුතණුවන්, ඊළඟට ප්‍රදීපා පෙරේරා, චන්ද්‍රිකා සේපාලි, මල්කාන්ති සිල්වා, නීතා වීරසිංහ යන ලේලිවරුන් ඇතුළු මිණිබිරියන් ඒ වගේම මුණුබුරන්, ඒ වගේම පවුලේ සෑම සියලු දෙනා විසිනුයි අද ධර්ම දානමය පින්කම සිදු කරන්නෙ. අද ධර්මය අපි අහන්නේ පටාචාරා අර්හත් උත්තමාවිය ගැන. පටාචාරා අර්හත් තෙරණින් වහන්සේ. මේ පටාචාරා තෙරණින් වහන්සේගේ සිදුවීම පින්වතුන්ලා බොහෝ දෙනෙක් අසා තිබෙන කාරණාවක්. බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ විනයධර භික්ෂුණීන්ට අග්‍ර වීම පිණිස ඈ පින් පුරාගෙන එන ගමන ආරම්භ කලේ, මීට කල්ප ලක්ෂයකට ඈත ඉඳලා. මීට කල්ප ලක්ෂයකට ඈත ඒ අතීතයේ ලෝකයට පහළ වුනා මහා කාරුණික ශාස්තෘන් වහන්සේ නමක්, ඒ ලෝකානුකම්පාවෙන් පහළ වූ ශාස්තෘන් වහන්සේ වනාහි පදුමුත්තර අර්හත් සම්මා සම්බුදුරජාණෝය. පදුමුත්තර බුදුරජාණන් වහන්සේගේ ශාසනය පවතින කාලෙත් ඇය ස්ත්‍රියක්. ඇය නිතර බණ අහන්න යනවා. එසේ දහම් ශ්‍රවණය කරද්දි දවසක් ඇය දකිනවා ඒ පදුමුත්තර බුදු සසුනේ විනයධර භික්ෂුණීන් අතර අග්‍ර වූ භික්ෂුණිය. ඇයව දුටු ගමන් මේ පින්වන්ත තැනැත්තියගේ හිතේ පින් සිතුවිල්ලක් හටගන්නවා. අනේ මා හටත් මතු අනාගතේ බුදු සසුනක භික්ෂුණී සංඝයා අතරේ පැවිදි වී විනයධර භික්ෂුණීන් අතර අග්‍ර භාවයට පත් වී අමෘත නිවනේ සැනසෙන්න ඇති නම්. අන්න ඒ වගේ හිතක් උපන්නා. ඒ හිතුවිල්ලෙන් තමයි ඇය පින් පූරණය කිරීම ආරම්භ කලේ. ඇය පින් පුරාගෙන පැමිණියා. එසේ පැමිණිලා මේ ජීවිතේ ඇය උපන්නේ සැවැත්නුවර මහා ධනවත් සිටු පවුලක, අපගේ ලොව්තුරා භාග්‍යවත් අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකානුකම්පාවෙන් යුතුව මේ ලෝකයේ පහළ වෙන යුගයේ ඇය උපදිනවා සැවැත් නුවර. තරුණ වයසට එනකොට ඈ බොහොම අභිරූපියි. හරීම සුන්දර රූපයක් ඇයට තිබුනා. ඇය මේ රූප සෝබායෙන් යුක්තව යෞවන වයසට එනකොට ඇගේ දෙමව්පියො නිතර කල්පනා කලා ඇගේ ආරක්ෂා ගැන. ඒ නිසා භද්‍ර යෞවන වයසට එන ඇයට නීති පැනවුනා. ඇයට සිටුමන්දිරයෙන් ආවාට ගියාට ගමන් බිමන් එළිය පහළියට යන්න බෑ. සිටුතුමා බොහෝම රැකවරණ ඇතිව ඇයව ආරක්ෂා කරන්න කල්පනා කලා. හැබැයි ඇය සිටුමන්දිරයේ කාටවත් හිතාගන්න බැරිවෙන විදියට සිටුමන්දිරේ දර පලපු පිරිමි ළමයාත් එක්ක, ඒ තරුණයාත් එක්ක හාදකමක් පටන් ගත්තා. මේ සිටු කුලයට කිසිසේත් පෑහෙන්නෙ නැති දුගී දුප්පත් අනුන්ට බැලමෙහෙවරකම් කර කර ජීවත් වෙන ඒ පුරුෂයාත් එක්ක

මේ සුකුමාල තරුණ වයසෙ ඉන්න සිටුදුව හාදකමක් පටන්ගත්තා ඒ හාදකම සිටුමන්දිරය අස්සේම කාටත් නොදැනී හොරාටම ගොඩාක් දුරදිග ගියා. අවසානයේ දෙන්නාට දෙන්නා වෙන් කරන්න බැරි මට්ටමට මේ සම්බන්ධය හැදුනා. පස්සේ මේ පටාචාරාව ඒ තරුණයාත් එක්ක තමන්ගේම කියලා ලෝකයක් හොයාගෙන සිටු මන්දිරයෙන් පැන යන්න කල්පනා කලා. ඉතින් අවුරුදු දහසයේ වගේ බොහෝම තරුණ වයසේදීම ඈ අර තමන් හාදවෙච්චි දර පලන තරුණයාත් එක්ක පලා ගියා. ඒ සිටු මන්දිරයේ කිසි කෙනෙකුට මුණ ගැහෙන්නෙ නැති වෙන්න ඈතට ඒ දෙන්නා ගියා. ගිහිල්ලා බොහෝම දුක සේ ජීවිතයක් ආරම්භ කලා. හරිහමන් රස්සාවක් නැති මනුස්සයෙක් එක්ක තරුණ වයසේම පැනලා ඇවිල්ලා දැන් ඇය දුක සේ ජීවිතය පටන් ගත්තා. හැබැයි මේ දෙන්නා ආදරෙන් බැඳිලා හිටපු නිසා, අර බාහිරින් එන දුක් කරදර ඒ දෙන්නාට ලොකුවට තේරුන් නෑ මුල් කාලෙ. හිමීට පැල් කොටයක් අටවාගෙන, ඒ පැල් කොටයට වෙලා මේ දෙන්නා ජීවිතේ පටන් ගත්තා. මේ තරුණයා කරන්නෙ දර කපලා ඒ දර නගරයට අරගෙන ඇවිල්ලා දර විකුණලා තමයි කීයක් හරි හොයාගන්නෙ. ඉතින් ඔහොම කාලය ගතවුනා. කාලය ගතවෙනකොට මැයට දරුවෙක් ලැබන ලකුණු පහළ වුනා. ඒ දරුවා ලැබෙන්න ලකුණු පහළ වුනාම දැන් මැයට මේ දරුගැබ දරාගෙන ඉද්දි තමයි අම්මා තාත්තා දෙන්නාව මතක් වෙන්නෙ. හිතුවක්කාරකමට අම්මයි තාත්තයි දෙන්නව අත්හැරලා මේ අවුරුදු දාසයේදී හම්බෙච්චි තරුණයාව සම්පූර්ණයෙන් විශ්වාස කරලා පැනලා ආවනෙ. දැන් තමන්ගේ කුසට දරුවෙක් ආවට පස්සෙ තමයි මව්පියන්ගේ ගුණ මතක් වෙන්නෙ. ගොඩාක් වෙලාවට ගොඩාක් ජීවිත වල ඕක තියෙනවා. දෙමව්පියො ගැන මතක් වෙන්නෙ තමන් දෙමව්පියො බවට පත්වෙද්දි. එතකල් දෙමව්පියො කරපු කැපකිරීම මොකක්ද කියලා ගොඩාක් අයට අඳුනගන්න පුලුවන්කමක් ලැබෙන්නෙ නෑ. ඉතින් පටාචාරාවට අන්න ඒ වගේ එකක් තමයි මේ වුනේ. දැන් ඇයට ඉහිලුම් නෑ. දරුගැබ කුසේ දරාගෙන ඇය ඉල්ලීම් කරනවා තමන්ගේ ස්වාමිපුරුෂයාට අනේ අපේ දෙමව්පියො බලන්න යං. අපි ඉපදෙන්න ඉන්කොටත් අපේ අම්මලා තාත්තලා, අපේ ආරක්ෂාව ගැන, අපේ රැකවරණය ගැන කොච්චර හිතන්න ඇත්ද. අනේ මං මේ තරුණ වයසේ ආදරයට වසඟවෙලා ඒ දෙන්නාට පිටුපාලා ආවානේ. මට ඉහිලුම් නෑ මගේ අම්මයි තාත්තයි දෙන්නා ළඟ මේ පළවෙනි දරුපැටියා මට කිසි අත්දැකීමකුත් නෑ, මට ඒ දරුවන් වදන්න තියෙනවා නම් දැන් මේ නොයෙක් මැසිවිලි. නමුත් අර තරුණයා ඒ සිටුනිවසේ හිටපු දාසයා. ඒ දාසයාට බයේ බෑ සිටු නිවසට යං

කියලා කියනකොට. කිව්වා මේ සිටුතුමා හම්බවුනොත් එහෙම මාව පණ පිටින් හමගහයි. මං කොහොමද මේක කරන්නෙ? ඉතින් දැන් රණ්ඩුත්, නොයෙක් නොයෙක් විදියට රණ්ඩුදබරත් හටගන්නවා. අවසානයේ පටාචාරා තනි තීරණයකට ආවා, ඇය ස්වාමිපුරුෂයා කැලේට දර කපන්න ගියපු වෙලාවේ අර දරුගැබත් උස්සගෙන ඇය ගෙදර එන්නම් කියලා පිටත් වුනා, දුර පාර. මේ පාරෙ එනකොට ඇයට අතරමගදී විලිරුදාව හැදුනා, අතරමගදී දරුවා වැදුවා. ඒ දරුවා වදන මොහොත වෙනකොට ස්වාමිපුරුෂයාත් ඇයව හොයාගෙන ඇවිල්ලා. අවසානයේ දරු පැටියාත් එක්ක දැන් ඉතින් දරුවා හම්බුනානෙ ආයෙ සිටුමැදුරට යන්න ඕන නෑ කියලා ඔන්න හැරිලා ආවා. තව ටික කාලයක් ගතවෙනකොට දෙවෙනි දරුවෙකුත් හම්බවෙන්න ලකුණු පහළ වුනා. ඒ දෙවෙනි දරුවා කුසේ දරාගෙන ඉන්නකොටත්, දැන් අනිත් දරුවා දුවන පනින වයසේ. දෙවෙනි දරුවා කුසේ දරාගෙන ඉන්නකොටත් ඇයට තමන්ගේ දෙමව්පියො බලන්න යන්න ආසාවක් උපන්නා. ඇයට නිතර මතක් වෙනවා මේ දරුපැටවුන්ට අනාගතේ යන කලදසාවක් තියෙන්න එපැයි. මගේ අම්මා තාත්තා මහා සිටුවරු. ඒ මහා සිටුවරු වන මගේ දෙමව්පියන්ගේ ළඟ මේ දරුවන්ට රැකවරණයක් ලැබුනොත් ඒක මේ දරුවන්ගේ ජීවිතයට කොච්චර යහපතක්ද. ඇයට දැන් මෙහෙම හිතෙනවා. ඇය තමන්ගේ ස්වාමිපුරුෂයාට යෝජනාවක් කලා මේ වතාවෙවත් සිටුමන්දිරයට යං. එහෙම යෝජනා කලාට ඒ යෝජනාව දෙවෙනි වතාවෙත් ප්‍රතික්ෂේප වුනා. මේ ස්වාමිපුරුෂයා කැමැති නෑ මං දාසීපුත්, දාස පුත්‍රයා ඒ සිටු නිවසේ හිටපු මාව හම්බවුනොත් එහෙම මේ සිටුපවුලට කරපු විනාශය කියලා සිටුතුමා මාව පණපිටින් හමගහලා මරන්නෙ. මට නම් බෑ ඔය ගමන එන්න කියලා ඔහු ප්‍රතික්ෂේප කලා. දෙවෙනි වතාවෙත් ඇය මේ ලැබෙන්න ඉන්න දරු ගැබත් ඔසවාගෙන දුවන පනින වයසේ ඉන්න දරු පැටියාත් වඩාගෙන තනියම ගමන පිටත් වුනා. ඒ තනියම ගමන පිටත් වෙනකොට ස්වාමිපුරුෂයාත් මේ කාලෙ වෙද්දි යම් අවධානයකින් ඉන්නෙ, ඇයි කලින් පාර වෙච්චි වැඬේ දන්න හින්දා. ඉතින් ස්වාමිපුරුෂයා ටිකක් කල්වේලා ඇතිව ගෙදර එනවා. ඉතින් ගෙදර එද්දි ඇය පිටත් වෙලා. ඇයව හොයාගෙන ස්වාමිපුරුෂයා දුවගෙන ආවා. ඒ දුවගෙන පැමිණෙද්දී මහා ධාරාණිපාත වර්ෂාවක් වහින්න පටන් ගත්තා. ඒ වර්ෂාව මධ්‍යයේ දරු පැටියාවත් තුරුල් කරගෙන එක දරුගැබක් කුසේ දරාගෙන පටාචාරව රුක් සෙවණේ ඉන්නවා ඔහු දකිනවා. ඔහුත් එතෙන්ට ළංවුනා. ඔහු එතෙන්ට ළංවෙනකොටම ඇයට විළිරුදා හටගත්තා. විළිරුදාව හටගන්නකොට මේ අලුතින් උපදින දරු පැටියා

එකපාර වැස්සට තෙමුනොත් ලෙඩ වෙන්න පුලුවන්. ඒ නිසා ඒ දරුපැටියාට හෙවණක් සැලසීම පිණිස මේ ස්වාමිපුරුෂයා අතුකොළ ටිකක් කඩාගන්නම් කියලා මේ වැස්සේම කැලේ අතුකොළ ටිකක් කඩන්න කැලේ අස්සට රිංගුවා. ඔබ දන්නවා මේ සිදුවීම, කැලේදී බොහොම දරුණු සර්පයෙක් ඔහුට දෂ්ටකලා, දෂ්ට කල සැණින් ඔහු මියගියා. පටාචාරව මහාබද වැස්සේ දරුවෙක් වැදුවා, මස් වැදැල්ල. ඒ මස් වැදැල්ල තමන්ගේ ඇඳගෙන හිටපු වස්ත්‍රයෙන් කැබැල්ලක් ඉරලා අරගෙන එහි තියලා තුරුල් කරගෙන තමන්ගේ ස්වාමිපුරුෂයා හොයාගෙන ඈ යනවා. ඈ ඉස්සරහට යනකොට ඇගේ ආදර ස්වාමිපුරුෂයා සර්පයෙක් දෂ්ට කරලා මියඇදිලා ඉන්නවා ඇයට පේනවා. පින්වතුනි ජීවිතවල දුක් ගිනි කියන ඒවා. දැන් මේ පටාචාරාවගේ ජීවිතේ හටගන්න මේ දුක්ගිනි මීටත් වඩා වැඩිපුර වෙන වෙන ක්‍රමවලින් විඳවන්න වෙන ජීවිත කොච්චර මේ ලෝකෙ තියෙනවාද. තමන්ගේ ඇස් පනාපිට තමන්ගේ ස්වාමිපුරුෂයා මියැදුනා, ඔහුගේ මෘත ශරීරය වෙනුවෙන්වත් යමක් කරන්න ඇයට හැකියාවක් නෑ. හෝ ගාලා වහිනවා. ඈ මේ වරුසාවේම තීරණය කලා, තමන්ගේ දැන් තමන් තනිකඩයි, දැන් තමන්ට මනුස්සයෙකුත් නෑ, ඈ තීරණය කලා සිටුමන්දිරයමටයි යා යුත්තෙ. අඬ අඬා අලුත උපන් දරු පැටියා තුරුල් කරගෙන අනිත් දරු පැටියාවත් අනිත් පැත්තෙන් වඩාගෙන ඈ පිටත් වෙනවා. ඒ පිටත් වෙද්දි වර්ෂාව නිසා එතෙර වෙන්න ගංගාවක් තිබුනා, ඒ ගංගාව දෙගොඩතලා යන තරම් වතුර. ඒ දෙගොඩතලා යන වතුරේදී පටාචාරවට තමන්ගේ දරු දෙන්නාවම අහිමි වුනා. දුවන පනින වයසේ දරු පැටියා ගහගෙන ගියා, ඒ දරුවා ගහගෙන යන අතරේ ඒ දරුවාව බේරගන්න කියලා හිතාගෙන තමන්ගේ අතේ හිටපු දරුපැටියා ගොඩබිම තියලා වතුරට පැන්නා. ඇය වතුරට පැනලා හැරිලා බලනකොට එදාම උපන්න දරු පැටියා, ඒ මස් වැදැල්ල උකුස්සෙක් ඩැහැගෙන ගියා. පින්වතුනි පුදුමයි, කාන්තාවක් ඒක දරාගෙන හිටියා කියන එක. ඇයට දැන් අඩක් උමතුයි. ඇය ඔහේ ඇවිදගෙන යනවා. ඒ ඇවිදගෙන යනකොට සැවැත්නුවර සිටු මන්දිරය තිබ්බ ප්‍රදේශයට තමයි ඈ එවුනේ. ඇව දන්න කියන කෙනෙක් අඳුනගත්තා. අඳුනගෙන කතා කලා, හප්පේ මේ මීට බොහෝ කලකට පෙර හිතුවක්කාර විදියට පැන ගියපු සිටුදුව නේද. කතා කලා. කතා කරනකොට ඇය හඬ හඬා කියනවා, අනේ ඔව් මං දැන් සම්පූර්ණයෙන් අසරණයි. මට මගේ අම්මයි තාත්තයි මගේ සහෝදරයයි බලන්න ඕන. මට සිටුමන්දිරය තියෙන තැනට මාව එකතු කරන් යන්න. එතකොට ඒ මනුස්සයා බොහෝම කණස්සල්ලෙන් කියනවා අයියො කියන්න

කණගාටුදායක සිද්ධියක් සිද්ධ වෙලා. අර බලන්න, අර ඔබට පේනවාද, ඈතින් දුම දාන හැටි. ඈතින් දුමක් නගිනවා පේනවා. ඔය දුම් දාන්නෙ ඔබේ මැණියන්ගේත් පියාණන්ගේත් සහෝදරයාගේත් චිතක වල ගින්න. ඊයේ වර්ෂාවට සිටු මන්දිරයට ගහක් කඩා වැටිලා සිටු මන්දිරයේ හිටපු මහ සිටුතුමාත් සිටුදේවියත් ඔබේ සහෝදරයාත් තුන්දෙනාම මියපරලොව ගියා. හිතන්න ජීවිත වලට වෙන නස්පැත්ති. හරීම පුදුමයි මේ සංසාරික ගමන, මේ සංසාරයේ පින් පුරාගෙන එන මහා ශ්‍රාවිකාවියක් බවට පත්වෙන්න පින් තියෙන උත්තමාවියක්. ඇගේ ජීවිතයට වෙන ශෝචනීය ඉරණම. ඇස් වල කඳුළු නැතිවෙනකල් ඈ ඇඬුවා. ඇයට අහන්නට ලැබෙන හැමදේම ඇය තනිවෙනවා කියන ආරංචිය. ඇය ආදරය කරපු ස්වාමිපුරුෂයා අහිමි වුනා, ඇය තනිවුනා. ඇගේ ලෝකය සරසාගෙන හිටපු ඇගේම කුසින් වදාපු දරු පැටව් අහිමිවුනා, ඇය තවත් තනිවුනා. ඇයට යම් පිළිසරණක් දෙන්න හිටියේ, ආදර අම්මා තාත්තා, ඇගේම සහෝදරයා. දැන් ඒ තුන්දෙනාත් නැතිවෙලා. වාවගන්න බැරිව ගියා, ඇය බිම ඇදගෙන වැටුනා. බිම ඇදගෙන වැටිලා ඒ මේ අත පෙරලි පෙරලී අඬන්න පටන් ගත්තා. ඒ ඇඬුමේදී ඇගේ වස්ත්‍ර ගැලවී ගියා. නිර්වස්ත්‍රව ඇය දැන් පාරක් පාරක් ගානෙ අඬ අඬා යනවා එකම දෙයක් කිය කිය. මේ තමයි ඇගේ හැඬිල්ල. උභොපුත්තා කාලකතා - අයියෝ මගේ දරු පැටව් දෙන්නාම කාලක්‍රියා කලා. පන්තෙ මය්හං පතීමතො - මගේ ආදර ස්වාමිපුරුෂයා මහාපාරෙ මැරුනෙ. මාතා පිතා ච භාතා ච ඒකචිතකස්මිං දය්හරෙ - මගේ මැණියන්, පියාණන් සහෝදරයා එකම චිතකයක දැවී ගියා, අයියො මට සිද්ධ වෙච්චි දේ. අයියෝ මට සිද්ධ වෙච්චි නස්පැත්තිය කියලා අඬ අඬා ඇය පාරක් පාරක් ගානෙ ගියා සැවැත් නුවර. ඔය සැවැත්නුවර හැම වීදියකම ඇගේ දුක් ගින්න කිය කියා ඇය ගියා. ඈ එහෙම දුක් ගින්න කියාගෙන යනකොට ඇතැම් මිනිස්සු ඇයට පිස්සියක්ය කියලා ගල් ගැහුවා. ඇයට ළංවෙන්න ඉඩක් දුන් නෑ, එහෙම යන ඇයට එක කරුණාවන්ත උපාසකයෙක් හරි තැන පෙන්නුවා, ඒ තමයි අපේ තථාගත අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ ළඟට ඇව යොමු කලා. මේ පටාචාරව බුදුරජාණන් වහන්සේ ළඟට දුවගෙන යන්නෙ. ඒ දුවගෙන යනකොටත් ඈ පිස්සියක්. ඇගේ ශරීරයේ නූල්පොටක්වත් නෑ, ඈ දුවගෙන ගිහිල්ලා ඇගේ දුක්ගින්න ඒ විදියටම කියලා භාග්‍යවතුන් වහන්සේ ඉදිරියේ පෙරළුනා, අනේ ස්වාමීනී මට හැමදේම නැතිවුනා, මං දැන් හැමදේම නැතිවෙච්චි කාලකණ්ණි එකියක්. එහෙම කියාගෙන වැතිරුණා. ඒ වැතිරෙන කොට එතන හිටපු එක උපාසක මහත්තයෙක් ඔහු පොරවාගෙන හිටපු උතුරු

සළුව පටාචාරාවට පොරවනවා. බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ භාග්‍යවතුන් වහන්සේගේ මහා කාරුණික ස්වරයෙන්, පින්වතුනි බුදුරජාණන් වහන්සේට තිබුනු ස්වරය භාග්‍යවතුන් වහන්සේ සාංසාරික ගමනේ සාරාසංකෙය්‍ය කල්පලක්ෂ වාරයක් පාරමිතා ධර්මයන් පුරාගෙන එනකොට සත්‍යම කතා කලා. මේ ලෝකයාව රවටලා නෑ අපේ බුදුරජාණන් වහන්සේ, සත්‍යය කතා කලා. සත්‍ය පාරමිතා පිරුවා. ඒ පාරමිතා බල මහිමයෙන් බුදුරජාණන් වහන්සේගේ වචනයට දහසක් ගිනි නිවෙනවා. බුදුරජාණන් වහන්සේගේ ස්වරයට හදවත් වල ගිනි නිවෙනවා. පිස්සියක් වෙලා ඉන්න පටාචාරාවට, බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා චතුසු සමුද්දෙස ජලං පවිත්තකං - පටාචාරා මේ සතර මහා සමුද්‍රයේ ජලය චුට්ටයි කියලා කියන්න තියෙන්නෙ, සතර මහා සමුද්‍රයේ තියෙන ජලය මහා ජලයක් නොවේ. තටූ බහු අස්ස ජලං අනප්පකං - සතර මහා සමුද්‍රයේ ජලයට වඩා බොහෝ සෙයින් වැඩි පටාචාරා ඇස්වලින් ගැලූ කඳුළුමයි. දුක්ඛේන පුට්ඨස්ස නරස්ස සෝචතො - මනුස්සයාගේ ජීවිතේට දුක් එනකොට ඒ දුක් ගිනි වාවගන්න බැරිව මිනිස්සු අඬද්දි ශෝක කරද්දි මිනිස්සුන්ගේ ඇස් වලින් ගලාගෙන යන කඳුළුයි වැඩි. මේ මහා සමුද්‍රයේ වතුර නෙවෙයි. කිං කාරණා සෝකවසා පමුජ්ඣති - පටාචාරා එහෙව් එකේ මේ ශෝකයට වසඟ වෙලා ප්‍රමාද වීමේ අර්ථය මොකක්ද. න සන්ති පුත්තා තානාය නපිතා නපි බන්ධවා අන්ත කේනාති පන්නස්ස නත්ථි ඥාතී සුසානතා - දරුවන්ගේද නැතේ පිහිටක්, පියාගෙන් නෑයන්ගෙන්, පරලොවට නොමැත පිහිටක්, මාරයා ඩැහැගන්න විටදී නෑයන් අතර නොමැත පිහිටක්. දරුවො ළඟ පිහිට පැතුවාට දරුවො ළඟ පිහිට නැත. පියාගෙන් නෑයන්ගෙන් පිහිට පැතුවාට හැබෑටම මේ සත්වයාට පියාගෙන් නෑයාගෙන් පිහිට නැත. පරලොවට කිසිසේතම පිහිටක් නැත ඒ අයගෙන්. ඒ සියලු දෙනා අත්හැර පරලොව යන්නට සිදු වෙද්දී ජීවිතේ මාරයා විසින් ඩැහැගනිද්දී, මේ එකට ජීවත් වෙන නෑයන් අතරේ කොහොම නම් පිහිටක් ලබන්නද. ඒක මත්ත වසං යත්වා පණ්ඩිතො සීල සංවුතො නිබ්බාණ ගමනං මග්ගං කිප්පමේව විසෝදයේ. මෙකරුණ හොඳින් දැනගෙන නැණවතා සිල් රැකගෙන ඉඳුරන් ද සංවර කොට නිවනට රැගෙන යන මග වහ වහා පිරිසිදු කළ යුතු. භාග්‍යවතුන් වහන්සේ වදාළා මේ බාහිර කිසි දේකින් පිළිසරණක් නැත කියලා දකින කෙනා තමන්ගේ රැකවරණය පිණිස සීලය එක් කරගත යුත්තේය. හොඳට සිල් රකින්න පටන් ගන්න ඕන. ඇස, කණ, නාසය, දිව, කය, මනස කියන ඉන්ද්‍රියෝ සංවර කරන්න පටන් ගත යුත්තේය. නිවනට රැගෙන යන සොඳුරු මාර්ගය වන

ආර්ය අෂ්ටාංගික මාර්ගය තමන්ගේ ජීවිතය තුළ පාදා ගන්න මහන්සි ගත යුත්තේය. සම්මා දිට්ඨි, සම්මා සංකල්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව ,සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි. සීල සමාධි ප්‍රඥා සංඛ්‍යාත නිවන් මග පිරිසිදු කරගන්නටයි කෙනෙක් රැකවරණය කැමැති නම් මහන්සි ගත යුත්තෙ. බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී සම්බුදු මුව මඩලින් ඔය සත්‍යය වදන් පටාචාරවට අහන්න ලැබුනා, පටාචාරාවගේ දුක් ගිනි සියල්ලම නිවී ගියා. මහා ශාන්තියක්, මහා සැනසිල්ලක්, මහා සැපක් ඇයට ලැබුනා. ඇය ඒ වෙලාවේ දොහොත් නළලේ තියාගෙන භාග්‍යවතුන් වහන්සේගෙන් ඉල්ලනවා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, ඔබ වහන්සේ මගේ ශාස්තෘන් වහන්සේ වන සේක. ස්වාමීනී සුගතයන් වහන්ස, ඔබ වහන්සේ මාගේ ශාස්තෘන් වහන්සේ වන සේක. ස්වාමීනී මගේ ජීවිතේ සියලු ගිනි නිව්වේ ඔබ වහන්සේ විසින්. ඒ නිසා මගේ ජීවිතේ ගිනි නිවාලූ ශාස්තෘන් වහන්සේ ළඟ මටා පැවිද්ද ලැබේවා, මට උපසම්පදාව ලැබේවා කියලා ඇය පැවිදි වෙන්න අවසර පැතුවා. සියල්ල දන්නා, සියල්ල දක්නා මහා කාරුණික ශාස්තෘන් වහන්සේ ඒ පටාචාරා නැමැති මහා පින්වතියව පැවිදි කෙරෙව්වා. ඈ භික්ෂුණී සංඝයා අතරේ පැවිදි වුනේ. ඒ පැවිදි වුනාට පස්සෙ දැන් ඈ සිත් සනසන දහම අහනවා. නිතර ධර්මය ශ්‍රවණය කරනවා. ඇයගේ හදවතට දැන් අර ශෝකය ස්පර්ශ වෙන් නෑ. හේතුව ඈ සත්‍යය දැනගෙන, ඈ සත්‍යය අහලා. හිත සන්සිඳෙන දේ ඈ අහලා. ඇය දැන් ජීවිතය දිහා ප්‍රඥාවෙන් බලන්නෙ. තමන්ගේ ස්වාමිපුරුෂයා අහිමි වුනා කියන එක දැන් ඇගේ හදවත රිද්දන් නෑ. තමන්ගේ දරුවා නැතිවුනා කියන එක දැන් ඇගේ හදවත රිද්දන් නෑ. තමන්ට හිටපු සියලු ඥාති සමූහයා ඒ අය අහිමි වුනා කියන එක දැන් ඇගේ හිත රිද්දන් නෑ. ඒ උත්තමාවී බුද්ධ ශාසනේ පැවිදි වෙලා වීර්යය වැඩුවා. ඉතින් ඒ ගැන ථෙරී ගාථා වල මෙහෙමයි කියවෙන්නෙ. මේ මිනිස්සු නගුල් වලින් කුඹුරු හාලා කුඹුරේ බීජ වපුරලා අඹුදරුවන්වත් පෝෂණය කරගෙන ධනය හම්බ කරගන්නවා. සාමාන්‍ය මනුස්සයෙක් ජීවිතය වෙනුවෙන් කැපවෙන කැපවිල්ල. මිනිස්සු තමන්ගේ දරුවො වෙනුවෙන් ගොඩාක් මහන්සි වෙලා ධනය හම්බ කරලා ඒ ධන සම්පත් වලින් කොහොම කොහොම හරි ජීවිතේ ගැටගහගන්නවා. ඉතින් ඒක එකල මෙකල කියලා වෙනසක් නැතෙ. මේ කාලෙ වුනත් පින්වතුනේ මනුස්සයෙක් කොච්චර මහන්සි වෙනවාද මේ ජීවිතේ ගැටගහගන්න. රස්සා කරලා හම්බවෙන මුදල කල්ඇතිවම කළමණාකරණය කරන්න ඕන. ලයිට් බිලට මෙච්චරයි, වතුර බිලට මෙච්චරයි, වාහනයේ කටයුතු වලට මෙච්චරයි, ගෙවල් දොරවල් වල

කටයුතු වලට මෙච්චරයි, දරුවන්ගේ පන්ති වලට වියදම මෙච්චරයි, නොයෙක් දේ. මිනිස්සු ඒ ඔක්කොම සැලසුම් හදාගෙන කරන්න ඕන. හැබැයි මිනිස්සු ඒ ඔක්කොම කරනවා, මිනිස්සු මහා ධෛර්යයකින් මහා කැපවීමකින් ඒ ඔක්කොම ටික කරගන්නවා. ඉතින් සිල්වත් ජීවිතයකුත් ගෙවාගෙන බුද්ධ ශාසනයක හැසිරෙන කම්මැලිකමක් උඩඟුකමක් නැති සීලවන්ත ජීවිතයක් ගත කරන බුද්ධ ශාසනයේ බොහොම වීර්යයෙන් ධර්මයේ හැසිරෙන කෙනෙක් විදියට මං කොහොමද නිවන් අවබෝධ නොකර ඉන්නේ , අන්න එහෙම හිතුවා. එහෙම හිතලා වීර්යයෙන් ධර්මය පුරුදු වුනා. සතිපට්ඨානය තුළම හිත පැවැත්වූවා. ඒ උත්තමාවියගේ අර්හත්වය ගැන හරීම ලස්සනයි, ථෙරීගාථාවේ විස්තර වෙන විදිය. මං පා සෝදාගන්න වතුර වත්කලා. ඒ උත්තමාවිය කුටිය ඇතුලට ප්‍රවිෂ්ට වෙන්න කලින්, එතකොට කුටිය ඇතුලට ප්‍රවිෂ්ට වෙනකොට සාමාන්‍යයෙන් පා දෝවනය කිරීම නිතර සිදු කරපු දෙයක්. ඈ පා දෝවනය කලා, කකුල් පිරිසිදු කරගත්තා. එතකොට ඒ උත්තමාවියට පේනවා ඒ පා සෝදපු වතුර ටික උස් තැනකින් පහත් තැනකට ගලාගෙන යනවා මං දැක්කා. අර කකුල හෝදන වතුර ටික ඒ උත්තමාවියට පේනවා ගලාගෙන යනවා. ගලාගෙන ගිහිල්ලා ඒ වතුර ටික වැඩි දුරක් නොගිහින්ම එහෙම්මම හිඳී යනවා. ඒ උත්තමාවිය කල්පනා කලා ජීවිතයත් මේ වගේනෙ. ජීවිතේ කියන එකත් ගතවෙන්න ගතවෙන්න සිද්ධ වෙන්න අහිමි වීම. අපේ ජීවිතේ ගතවෙන්න ගතවෙන්න පින්වතුනි අපිට සිද්ධ වෙන්නෙ මොකක්ද අහිමි වී යනවා. අපිට අහිමි වී යනවා. ජීවත් වෙන්න තියෙන කාලය අහිමි වෙනවා. අපිට තියෙන ආයුෂය අහිමි වෙනවා. අපි මේ ප්‍රිය බන්ධන හදාගෙන ගත කරන ජීවිතය අපිට අහිමි වෙනවා. අපි යම් තරුණ බවකින් උදම් වෙලා ඉන්නවා නම් ඒ තරුණ බව අහිමි වෙමින් තියෙනවා. අපි යම් ජීවිතයකින් උදම් වෙලා ඉන්නවා නම් ජීවිතය අහිමි වෙමින් තියෙනවා. අපි යම් නිරෝගී බවකින් උදම් වෙලා ඉන්නවා නම් නිරෝගී කම අහිමි වෙමින් තියෙනවා. අහිමි වෙනවා. ගතවෙන හැම මොහොතක් මොහොතක් පාසාම අහිමි වෙවී අහිමි වෙවී යනවා, ජීවිතය මරණය කරා ඇදෙනවා. ඒ ගැනත් මං හොඳට හිත එකඟ කරගත්තා. මේ හිත ශ්‍රේෂ්ට අශ්වයෙක් දමනය වුනා වගේ දමනය වුනා. හොඳට දමනය වෙන අශ්වයෙක්, ස්වාමියාට කීකරුව දමනය වෙනවා වගේ මේ හිත දමනය වුනා කියනවා. හිත දමනය කරනවා කියන්නෙ සමථ භාවනාවෙන් කුසල් අරමුණක් තුළ හිත එකඟ කරගෙන කරන්න ඕන දෙයක්. ඒක දුෂ්කර දෙයක්. සාමාන්‍යයෙන් හිත ගැන අවධානයෙන් ඉන්න කෙනෙකුට හිත ගැන

අවධානයෙන් ඉද්දි තමයි තේරුම් ගන්නෙ මේ හිතේ නාඩගම්. මේ හිත කොච්චර අරමුණු අරමුණු පාසා යනවාද කියන එක හිත ගැන අවධානෙන් ඉද්දි තේරෙන්නෙ. හිත ගැන අවධානයක් නැති කෙනා කරන්නෙ, හිතේ නාඩගම් ටික ක්‍රියාත්මක කරන එක. හිතට එන එන එක කරන එක තමයි සාමාන්‍ය මනුස්සයාගේ ස්වභාවය. බුද්ධ ශාසනයක බණ පදයක් අහලා මේ හිත ගැන අවධානයක් යොමු කරනකොටයි තේරෙන්නෙ මේ හිත කියන එක පාලනය කරන්න තමන්ට ඕන විදියට හසුරුවගන්න කොච්චර අමාරුද කියලා. හැබැයි ධර්මය තුළ පිහිටලා, සීල සංවරයට පැමිණිලා කුසල් අරමුණු තුළ හිත එකඟ කරන්න මහන්සි ගන්නකොට ඉන්ද්‍රිය සංවර කරනකොට ඒ කෙනාට පුලුවන් වෙනවා හිත දමනය කරන්න. හරියට අශ්වයෙක්ව මනාකොට දමනය කරගත්තා වගේ හිත දමනය කළහැකි. ඉතින් මේ තෙරණින් වහන්සේ පටාචාරා උත්තමාවිය හිත දමනය කලා. මේ සිද්ධිය සිද්ධ වෙලා තියෙන්නෙ රාත්‍රී කාලයේ. ඒ උත්තමාවිය කියනවා ඊටපස්සෙ මං පහනත් අරගෙන කුටිය ඇතුලට ගියා. පහන් එළියෙන් ඇඳ හොයාගත්තා. මං ඇඳේ වාඩිවුනා. පහන නිවන්න හිතාගෙන පහන් තිරය පහලට ඇද්දා. අන්න ඒ වගේ පහනක් නිවිලා යන විදියටම මගේ හිත සියලු කෙලෙසුන්ගෙන් නිදහස් වුනා. අන්න එහෙම තමයි පටාචාරා රහත් තෙරණිය තමන් වහන්සේගේ අර්හත්වය ගැන කිව්වෙ. පහනක් නිවී යනවා වගේ කිසිම භවයක නොපිහිටා, ඒ උත්තමාවියගේ හිත කිසිම ක්ලේශයක නොපිහිටා සෝපාදිශේෂ පරිනිර්වාණයෙන් සියලු කෙලෙස් නිවුනා. පරිනිර්වාණය ගැන කියනකොට පින්වතුනි බුද්ධ ශාසනය ඇතුලේ පරිනිර්වාණ දෙකයි. පිරිනිවන් පෑම කියන එක දෙවිදියකට විස්තර වෙනවා. සෝපාදිශේෂ පරිනිර්වාණ, අනුපාදිශේෂ පරිනිර්වාණ. සෝපාදිශේෂ පරිනිර්වාණ කියලා කියන්නෙ මේ සාංසාරික ගමනේ පටලැවිලා තියෙන කෙලෙස් බන්ධන ඔක්කොම නැතිව යනවා කියනවා, සෝපාදිශේෂ පරිනිර්වාණයෙන්. එහෙම නැත්නම් ඒකට කියන්න පුලුවන් දුකෙන් නිවීම. දුක් නිවුනා. සියලු කෙලෙස් දුරු වී ගියා. ඒකට කියනවා සෝපාදිශේෂ පරිනිර්වාණ. සෝපාදිශේෂ පරිනිර්වාණයට පත්වෙච්චි උත්තමයා හෝ උත්තමාවිය මේ ජීවිතේ කය ඇත්හැරලා දානවාට කියනවා අනුපාදිශේෂ පරිනිර්වාණය. දැන් අපගේ තුන්ලෝකාග්‍ර මහා කාරුණික ශාස්තෘන් වහන්සේ සෝපාදිශේෂ පරිනිර්වාණයට පත්වුනේ වෙසක් පුර පසළොස්වක පුන්පොහෝ දිනයක ගයාවේ බෝ මැද්දේ. බුදුරජාණන් වහන්සේ උතුම් සම්මා සම්බුදුරජාණන් වහන්සේ බවට පත්වෙනකොට සිද්ධ වුනේ සෝපාදිශේෂ පරිනිර්වාණය.

ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ සෝපාදිශේෂ පරිනිර්වාණයෙන් යුක්තව අනුපාදිශේෂ පරිනිර්වාණය දක්වා බුදුරජාණන් වහන්සේ වැඩ හිටියා පුරා අවුරුදු හතළිස්පහක්. සතලිස් පස් අවුරුද්දක් ලෝකයට සෙත සළසලා වෙසක් පුර පසළොස්වක පුන් පොහෝ දිනයේ බුදුරජාණන් වහන්සේ කුසිනාරාවේ උපවර්තන සාල වනෝද්‍යානයේදී තමයි අනුපාදිශේෂ පරිනිර්වාණයට පත්වුනේ. ඉතින් ඒ කාරණය අපි ඒ විදියටයි තෝරගන්න ඕන. පටාචාරා අර්හත් තෙරණිය එදා ඒ උත්තමාවියගේ කුටියේදී සෝපාදිශේෂ පරිනිර්වාණය, එහෙම නැත්නම් අමෘත නිවන පසක් කලා. ඒ නිවන පසක් කලාට පස්සෙ මේ රහත් තෙරණින් වහන්සේ ගැන ගොඩාක් ඒ රහත් තෙරණින් වහන්සේගේ අනුවේදනීය කතාව අනිත් භික්ෂුණීන් වහන්සේලා දැනගෙන ඔය කතාව නිතර කතා වෙවී ඉඳලා තියෙන්නෙ. ඉතින් පැවිද්දට පත්වුනාට පස්සෙත් ඒ ගැන දන්න අය නිතර නිතර ඇවිල්ලා මේ උත්තමාවියගෙන් මේක ගැන අහලා තියෙනවා. අනේ ඔයාට වෙච්ච දේ නේද කියලා, ඉතින් එහෙම අහනවානෙ. එහෙම අහනකොට ඒ උත්තමාවිය දැන් ප්‍රකාශයක් කරනවා. දැන් ඒ මියගිය දරුවො ගැන මට දුකක් නැත. මගේ මහපාරේ මියගියපු ස්වාමිපුරුෂයා ගැනද මට කිසි දුකක් නැත. මගේ මව්පියන්ගේ මරණය ගැනද මට දුකක් නැත. මගේ සහෝදරයාගේ මරණය ගැන ද මට දුකක් නැත. කොටින්ම මට මෙහෙම සිද්ධ වුනා කියා දුකක්වත් මට නැත. ඉතින් දුක් නැසූ ජීවිතයක දුක කොහෝ පිහිටන්නද. ඒ උත්තමාවිය ඒ ගැනයි කිව්වෙ. ඉතින් මේ පටාචාරා රහත් තෙරණිය මෙහෙම කියනකොට මේක භාග්‍යවතුන් වහන්සේ දැනගන්නවා. බුදුරජාණන් වහන්සේ එය දැනගෙන පටාචාරා රහත් තෙරණිය අරමුණු කොට මෙන්න මේ ලස්සන ගාථාව වදාලා. මෙය සඳහන් වෙන්නෙ ධම්මපදයේ සහස්ස වර්ගයේ. යෝචේ වස්සසතං ජීවෙ අපස්සං උදයව්‍යං ඒකාහං ජීවිතං සෙය්‍යා එස්ස තො උදයව්‍යං - සියක් අවුරුදු ගෙවා දැමුවත් සැබෑ තතු නම් නොදැක දිවියේ, එලක් නැහැමයි එය කෙනෙක් හට, එයින් ඇතිවෙන සෙතක් නම් නැත. ගෙවයි නම් ලොව එකම දවසක්, සැබෑ තතු දිවියේ පසක් කොට. උතුම් මයි ඒ ගෙවෙන එදවස සෙතක් සැලසෙනවා එයින් නම්. බුදුරජාණන් වහන්සේ වදාළේ මේ ජීවිතයේ සැබෑ තත්වය නොදැක, ජීවිතය කියන්නේ මොකක්ද කියලා අඳුනන්නෙ නැතිව අවුරුදු සීයක් ගත කරනවාට වඩා ජීවිතය ගැන තේරුම් අරගෙන ජීවිතාවබෝධයෙන් යුක්තව ගත කරන එකම එක දවසක් ශ්‍රේෂ්ටයි. මේ ගාථාව වදාළේ පටාචාරා අර්හත් උත්තමාවිය අරඹයා. ඇත්තෙන්ම පින්වතුනේ පටාචාරා රහත් තෙරණින් වහන්සේගේ ජීවිතය ගත්තහම ඇය

අර්හත්වයට පත්වෙන්න පෙර ගත කරපු ජීවිතයේ මහා දුක් ගිනි මැද, ඒ දුක් ගිනි කරදර එනකොට ඇයට ජීවිතේ ගැන තේරුමක් නෑ, ඇයට හිතෙන්නේම මගේ කාළකණ්ණිකම. අයියෝ ඇයි මේවා මටම වෙන්නෙ, එහෙම පපුවෙ අත් ගහ ගහ අඬපු කෙනා, කෙහෙවළු කඩාගෙන අඬපු කෙනා, උමතු වෙච්චි කෙනා, ඇඟේ නූල්පොටක් නැතිව දුවන තරමට උමතු වෙච්චි කෙනා, යම් දවසක බුදුරජුන්ගේ සොඳුරු බණ පද අසා ඒ ඇසූ බණ පදයෙන් තමන්ගේ සන්තානය සුවපත් කරගෙන ජීවිතය කියන්නෙ මෙයයි කියලා අවබෝධ කලාද ඒ අවබෝධ කරපු දවසේ ඉඳලා තියෙන්නෙ සැනසිල්ල. ඒ සැනසිල්ල නසන්න දෙවියන් බඹුන් මරුන් සහිත මේ ලෝකෙ කිසි කෙනෙකුට බෑ. හැබෑම සැනසිල්ලට පත්වෙච්චි නිසා. හැබෑම ශාන්තියට පත්වෙච්චි නිසා. අන්න ඒ නිසා පින්වතුනේ මේ පටාචාරා රහත් තෙරණියගේ මේ චරිතාපදානය අපි හැමදෙනාගේ ජීවිත වලට හොඳ ආදර්ශයක්. අපගේ ජීවිතයට දුක් කරදර කම්කටොලු එනකොට ඒ කරදර කම්කටොලු ඉදිරියේ අපිට අපේ හිත කියන්නෙ උඹ තමයි මහාම කාලකණ්ණි එකා, ඒකනේ උඹටම මේවා වෙන්නෙ කියලා. නමුත් බලන්න එහෙම කාලකණ්ණි කියලා හිතන, මහා අවාසනාවන්තයි කියලා හිතන කෙනෙක් මේ පටාචාරා තෙරණියගේ පැවිද්දට පෙර සිදුවීම ගත්තොත් එහෙම මහාම මහා අවාසනාවන්, හතුරෙකුටවත් වෙන්න එපා කියන ගණයේ දෙයක්නෙ ඒ සිද්ධ වුනේ. එකම දවසේ තමන්ට ආදරය කරපු හැමෝම තමන්ගේ ඇස්පනාපිටම මැරිලා ගියා. අපෝ හතුරෙකුටවත් වෙන්න එපා කියන ජාතියෙ එකක් වුනේ. හැබැයි ඒ උත්තමාවිය බුද්ධ ශාසනයේ සරණට පත්වෙච්ච නිසා, තෙරුවන් සරණ ගියපු නිසා, ජීවිතය සම්පූර්ණයෙන්ම සුවපත් කරගත්තා, සැපවත් කරගත්තා. සන්තෝෂ වෙන්න ඕන අපි, අපිට මුණගැහුනේ ඒ වගේ සරණක්. බුද්ධං සරණං ගච්ඡාමි, ධම්මං සරණං ගච්ඡාමි, සංඝං සරණං ගච්ඡාමි කියලා පින්වතුනි අපි සරණ ගියෙ අපේ ජීවිතයට එහෙම ශාන්තියක්, සැනසිල්ලක්, ආශිර්වාදයක් දෙන්න පුලුවන් සරණක්. ඉතින් ඒ පටාචාරා රහත් තෙරණිය පස්සෙ කාලෙක මේ බුද්ධ ශාසනය තුළ විනයධර භිකෂුණීන්ට අග්‍ර භික්ෂුණිය ලෙස අගතනතුරු ලැබුවා. මේ බුදු සසුන නම් අසිරිමත්, කිසිම විනයක් නැතිව භාගයවතුන් වහන්සේ ළඟට පැමිණි කාන්තාවක්, ස්ත්‍රියක් තමයි මේ බුද්ධ ශාසනයේ පැවිදි වෙලා විනයධර භික්ෂුණීන්ට අග්‍ර වුනේ. ඉතින් ඒ විනයධර භික්ෂුණීන්ට අග්‍ර වූ පටාචාරා අර්හත් තෙරණියට නමස්කාර කරමින් අපිත් අධිෂ්ටාන කරමු අපිට මේ බුදුරජුන් සරණ යන්න ලැබිච්චි ජීවිතේ, ධර්මය සරණ යන්න ලැබුනු ජීවිතේ,

ශ්‍රාවක මහා සඟරුවන සරණ යන්න ලැබුනු ජීවිතේ හැබැවටම මේ ජීවිතේ තියෙන පිළිසරණ වල උතුම් තෙරුවන සරණ යන්න ලැබිච්චි ජීවිතේ අපිටත් ඒ තෙරුවන් සරණේ ආරක්ෂාව, ආශිර්වාදය සලසාගෙන, සරණ සලසාගෙන පිහිට සලසාගෙන මේ ගෞතම ශාසනය තුල රහතුන් සැනසුනු, රහත් තෙරණින් වහන්සේලා සැනසුනු නිවනේ සැනසෙන්න අපිටත් වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!!

රැස් කල සියලු පින් සියලු දෙවියෝ අනුමෝදන් වෙත්වා. සක් දෙවිඳුන්, සතර වරම් දෙවිවරු ප්‍රධාන සදෙව්ලොව වැසි දෙවිවරුන්, අපගේ ඉෂ්ටකාමී, හිතකාමී සියලු දෙවිවරුන් ශ්‍රීමත් සුමන සමන් දෙව්රජු ප්‍රධාන ලංකා භූමිය සුරකින පොළොව වාසී සියලු දෙවිවරුන් පින් අනුමෝදන්ව, දෙවියෝ දිව්‍ය සැපයෙන් වැඩේවා. ඒ දෙවියෝ අපව ආරක්ෂා කරත්වා. සාදු සාදු සාදු!!! ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට පින් අනුමෝදන් වෙත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව නිරෝගීව දීර්ඝායුෂ ලබත්වා, ගෞතම ශාසනය තුළ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කල සියලු පුණ්‍ය ධර්මයන් අද ධර්ම දානය සිදු කරන ඒ පින්වතුන්ලා ප්‍රධාන අරමුණ ලෙස සඳහන් කොට ඇති පරිදි 2019 ජූනි මාසයේ 25 වෙනි දින මියපරලොව යන්න යෙදුනු හික්කඩුව ලියනගේ චාර්ලිස් සිංඤෝ පියාණන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ධර්ම දානය සිදු කරන පින්වතුන්ලාගේ නමින් යම්තාක් මියයන්න යෙදුනු සියලු ඥාතීන් වෙත්ද ඒ ඥාති වර්ගයාට පින් අනුමෝදන්ව ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා. ඒ ඥාතීන්ටත් මේ දුක් සහිත වූ සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙන්න ලැබෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදනාව සිද්ධ කරන්න. අද ධර්මදානය සිදු කරනු ලබන්නේ මියගිය චාර්ලිස් සිංඤෝ පියාණන්ගේ ආදරණීය බිරිඳ වන නැන්සි ද සිල්වා මහත්මිය, ජයන්ත පද්මසිරි, ලාල් ප්‍රේමසිරි, නිහාල් කරුණාසිරි, අජිත් කුමාරසිරි කියන ආදරණීය පුතනුවරුන්, ප්‍රදීපා පෙරේරා, චන්ද්‍රිකා සේපාලි, මල්කාන්ති සිල්වා, නීතා වීරසිංහ කියන ඒ ලේලිවරුන් ඇතුලු මිනිපිරියන් මුණුපුරන් ඇතුලු ඒ වගේම පවුලේ සෑම සියලු දෙනාවිසින්. ධර්ම දානය සිදු කලා වූ සුපින්වතුන්ලා හැමදෙනාටම මේ සියලු පින් එකලෙසම අනුමෝදන් වෙත්වා, ඒ පින්වතුන්ලාගේ ජීවිත වල රැකී රක්ෂා ආදී සියලු යහපත් කටයුතු සර්වප්‍රකාරයෙන් සමෘද්ධිමත් වෙත්වා, දියුණුවට පත්වෙත්වා. ඒ දරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදියත් සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වේවා.

පින්වතුන්ලාට නිදුක් නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. කල්‍යාණ මිත්‍ර ඇසුරේ තවදුරටත් මේ ධර්ම දාන ආදී පින්කම් සුවසේ සිදු කරගන්න සියලු ශක්තිය ධෛර්යය වාසනාව ලැබේවා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත් ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සෑම සියලු දෙනාටත් සුපින්වතුන්ලා හැමදෙනාටත් පින් අනුමෝදන් වෙලා මේ ලැබුනු දුර්ලභ මනුස්ස ජීවිතේ තෙරුවන් සරණ මුණගැහිච්ච මොහොතේ සුවසේ පින් පුරාගන්න ලැබේවා. සුවසේ දහම් මග දියුණු කරගන්න ලැබේවා. ගෞතම ශාසනයේ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න හැමදෙනාටම වාසනාව ලැබේවා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=2qVvhMATM9E

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, තුන්ලෝකාග්‍ර භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ උතුම් වූ ශ්‍රී සද්ධර්මය අදත් මේ උතුම් දේශනාවේදී ශ්‍රවණය කරන්නයි අපගේ සූදානම. භාග්‍යවතුන් වහන්සේගේ ධර්මය තුළ බුදුරජාණන් වහන්සේ පෙන්වලා දීපු එක අසිරිමත් ස්වභාවයක්, ඒක බුදු නුවණින් පසක් කළේ, ඒ මේ ලෝකයේ තියෙන එක්තරා ධර්මතාවයක් බුදුරජාණන් වහන්සේ දේශනා කලා ධාතු සංසන්දනය, ධාතු ධාතු එකතු වීම. මේ ධාතු ධාතු එකතු වෙනවා කියන එක ලෝකයේ අතීත, අනාගත, වර්තමාන කියන කාල භේදයකින් තොරව සිද්ධ වෙන දෙයක්. ඒ ධාතු එකතු වෙනවා කියන්නෙ මොකක්ද, හොඳට හොඳ එකතු වෙනවා. නරකට නරක එකතු වෙනවා. යහපතට යහපත එකතු වෙනවා. අයහපතට අයහපත එකතු වෙනවා. මේක

ලෝකයේ තියෙන ධර්මතාවයක්. මේ ධර්මතාවය අවබෝධ කළේ අපගේ භාග්‍යවත් අර්හත් ගෞතම සම්බුදුරජාණන් වහන්සේ මේ ධර්මතාවය මත ලෝකෙ දිහා බලපුවාම පේන්නෙ පින්වතුනි හොඳට පේන දෙයක්. පව් කරන ඇයො පව් කරන ඇයන්ටම එකතු වෙනවා. දුෂ්චරිතය කරන ඇයො දුෂ්චරිතය කරන අයට එකතු වෙනවා. යහපතේ හැසිරෙන අය යහපතේ හැසිරෙන අයට එකතු වෙනවා. ගුණ වඩන අය, ගුණ වඩන අයට එකතු වෙනවා. සත්පුරුෂ ගති ඇති අය සත්පුරුෂ ගති ඇති අයට එකතු වෙනවා. ඊළඟට මේ ලෝකෙ පින් කරන අය, පින් කරන අය පින් පුරනා අයට එකතු වෙනවා. දැන් මේ අද ඉගෙන ගන්න පුවත, ඒ අමා නිවන් දුටු රහත් තෙරණිවරු මේ දේශනා මාලාවේ අද අහන සිදුවීම අන්න එහෙම එකක්. එකට පින් පුරපු අය එකටම එකතු වෙච්චි හැටි, එකටම නිවනින් සැනසුනු හැටි. අද අහන්න ලැබෙන්නෙ එහෙම සිද්ධියක්. අද මේ දේශනාවට දායකත්වයන් දරනු ලබනවා මීට වර්ෂයකට පෙර මියපරලොව යන්නට යෙදුනු පින්වත් එම්.කේ. ගුණදාස පියාණන්ට පින්පෙත් අනුමෝදනා කරන අදහසින් නො.33 බෝගහවත්ත, ජඹුරේගොඩ, වැලිගම කියන ලිපිනයේ පදිංචි පින්වත් එම්.කේ. නිලන්ත කුමාර මහතා විසිනුයි ධර්මදානය සිදු කරන්නෙ. අද අපි මේ ධර්ම දේශනාවේදී ඉගෙන ගන්නේ තිහක් පමණ තෙරණිවරුන්ගේ ගාථා. මේ තිහක් පමණ තෙරණිවරු කියලා කියන්නෙ එකටම පින් පුරාගෙන ආපු අය. බුද්ධ ශාසන වල එකටම පින් පුරන්න පටන් ගත්තු අය. එකට එකතු වෙලා පින් පුරනකොට එහෙම එකතු වී පින් කරන අය ඒ පිනේ ආනිසංස ලෙස එකටම දෙව්ලොවදී හමුවෙනවා. දෙව්ලොවදීත් ඒ අය එකටම පින් කරනවා. එකටම යහපතේ හැසිරෙනවා. එහෙම එකටම යහපතේ හැසිරෙන කොට ඒ අයගේ ජීවිත එකටම ආවා. එහෙම පැමිණිලා අපගේ මහා කාරුණික භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ දඹදිව් තලයේ පහළ වෙනකොට මේ අය එකටම මනුස්ස ලෝකෙට එනවා, ළඟ ළඟ තැන්වල උපන්නා. ඒ ඉපදිලා සාමාන්‍යයෙන් තේරෙන වයසට එනකොටම මේ ඔක්කොම ගෑණු අය, ස්ත්‍රීන්, යෙහෙළියෝ විදියට එකතු වුනා. එකටමයි සෙල්ලම් කළේ, එකටමයි සතුටු වුනේ, සැප දුක බෙදාගත්තෙ එකටමයි. මෙහෙම මේ අය තරුණ වයසට එළඹෙනවා. තරුණ වයසට එළඹෙනකොට මේ අයට මේ බුද්ධ ශාසනය තුළ නිවනින් සැනසිච්චි උතුම් කල්‍යාණ මිතුරියක් මුණගැහුනා. ඒ කවුද අපගේ පටාචාරා අර්හත් තෙරණිය. පටාචාරා අර්හත් තෙරණියත් මුණගැහුනාට පස්සෙ තිස්දෙනාටම එකටම හිත පහදිනවා. ඒ උත්තමාවියගෙන් බණ පදයක් අහන්න ඇත්නම් තිස්දෙනාටම ආසාව උපන්නා.

එකට පින් පුරාගෙන ආපු නිසා කවුරුත් බාධා කරන්නෑ, නෑ මොනවාට බණ අහනවාද කියලා කියන්න කෙනෙක් එතන නෑ. ඒ බණ වල ඇදකුද කියන්න කෙනෙක් එතන නෑ. ඇයි තිසිදෙනාම එකට පින් කරගෙන ආපු ගැලපෙන ධාතු. ආසාවෙන් බණ ඇහුවා. බණ ඇහුවාට පස්සෙ, මේ පටාචාරා රහත් තෙරණින් වහන්සේගේ බණ පද මේ තිස් දෙනා හරි සන්තෝෂයෙන් කතා කරනවා. තව තව බණ වලට ආසාව ඇතිවුනා. තව තව බණ අහන්න අහන්න ජීවිතේ ගැන තේරුනා. ජීවිතේ ගැන තේරෙනකොට තව තවත් පිනට දහමට නැඹුරු වුනා. අවසානේ මේ තිස් දෙනා තරුණ වයසේදීම තීරණයකට එනවා අපි ඉතින් මේ වගේ උතුම් දහමක් දැනගෙනත් තරුණ වයසේදීම මේ උතුම් දහමක් දැනගෙනත් මොකට මේ ගෘහ බන්ධන වල පටලැවෙනවාද. අපි මහණ වෙමු. අපි දෙමව්පියන්ගේ අවසර පතාගෙන අපි මහණ වෙමු කියලා තිස් දෙනාම කතා වුනා. තිස් දෙනාම තම තමන්ගේ ගෙවල් වලින් අවසර පතනකොට පින් කරපු අයනෙ, තිස්දෙනාටම අවසර ලැබුනා. තිස් දෙනාම මහණ වුනා. ඉතින් ඒකයි පින් කරන එකේ වටිනාකම. එකට පින්වතුනේ පින් කලොත්, එකට යහපතේ හැසිරුණොත් ඒ යහපත ඒ පින් කිරීම මේ සාංසාරික ගමනට රැකවරණයක්මයි. බුදුරජාණන් වහන්සේ හරීයට ඒ නිසා පින් කිරීම වර්ණනා කලානෙ. පින රැස් කරගැනීම කියන එක ශාස්තෘන් වහන්සේ බොහෝ දේශනා වල වර්ණනා කලා. ධම්මපදයේ ගාථා ගණනාවකින් බුදුරජාණන් වහන්සේ පින වර්ණනා කලා. බුදුරජාණන් වහන්සේ දේශනා කලේ යම් කෙනෙක් පිනක් රැස් කලොත් කෙරාථේන පුනප්පුනං - යලි යලිත් රැස් කල යුත්තේ එබඳු පින්මයි. තම්හි ඡන්දං කෙරාථ - ලොකු ආසාවක් ඇති කරගන්න ඕන පින් කිරීම ගැන. සුඛො පුඤ්ඤස්ස උච්චයො - ජීවිතයට සැප සලසන්නේ පින විසිනුයි. ඉතින් බුදුරජාණන් වහන්සේ එහෙම දේශනා කරලා තියෙද්දීත් වර්තමානයේ සමහර වෙලාවට අපිට අහන්න ලැබෙනවා, හිතළු. හිතළු කියලා කියන්නෙ තම තමන්ගේ හිතුවක්කාර මත. ධර්මදේශනා බණ පද විදියට හිතළු අහන්න ලැබෙනවා පින් කිරීමෙන් පලක් නැත්තේය, පින් කිරීමෙන් සසර දික් වෙන්නේය, ආදී නොයෙක් කතා. ඉතින් මේ නොයෙක් කතා ගැන කතා කරන්න ගියොත් එහෙම මේ ධර්මයක් කියන්න තියෙන වෙලාව අපරාදෙ අපතේ යනවා. ඒ නිසා හොඳට තේරුම් ගන්න භාග්‍යවතුන් වහන්සේ වදාළ දේ. පින කරගන්න එකේ රැකවරණය. බලන්න මේ එකටම එකතු වෙලා පින් කරපු පිරිසක්, එකටම සුහද වෙලා ඒ අය එකටම බුද්ධ ශාසනේ පැවිදි වුනා. පැවිදි වුනාට පස්සෙ පටාචාරා රහත් තෙරණිය මේ භික්ෂුණීන් වහන්සේලා තිස් නමට දහම් අවවාද

කලා. මිනිස්සු මෝල් ගස් වලින් ධාන්‍ය වර්ග කොටනවා. අඹුදරුවන්වත් පෝෂණය කරගෙන ධනයත් උපයනවා. පටාචාරා රහත් උත්තමාවිය සාමාන්‍ය මිනිස්සු ජීවිතයක් ගැටගහගන්න කරන කැප කිරීම, උහුලන බර ගැන කෙටියෙන් කිව්වා. සාමාන්‍ය මිනිස්සු ජීවිතේ ගත කරන්න කොච්චර කැප වෙනවාද, ඒක දිහා හොඳට ඇස් ඇරලා බලන්න. සාමාන්‍ය මනුස්සයෙක් තමන්ගේ අඹුදරුවෝ පෝෂණය කරන්න තමන්ගේ ජීවිතය පවත්වගන්න, ජීවිතේ ගැටගහගන්න ඒ උදෙසා සල්ලි ටික හම්බ කරන්න කොච්චර මහන්සි වෙනවාද, කොච්චර දාඩිය හෙලනවාද, කොච්චර වගකීම් උසුලනවාද, ඒක බලන්න. කරොථ බුද්ධ ශාසනං යං කත්වා නානු තත්පති - යම් දෙයක් කලාට පස්සෙ තැවෙන්නේ නැත්නම් අන්න ඒ බුද්ධානුශාසනාව තමයි කරන්න ඕන. යම් දෙයක් කලාට පස්සෙ තැවෙන්නේ නැත්නම් අන්න ඒ බුද්ධානුශාසනාවයි කළ යුත්තේ. යම් දෙයක් කලාට පස්සෙ නොතැවී ඉන්න හේතුවෙන ඒ බුද්ධානුශාසනාව නම් කුමක්ද. ඒ ගැන බුදුරජාණන් වහන්සේට දේශනා කරන්න සිද්ධ වුනා එක දෙවියෙක් නිසා. ඒ දෙවියාත් ධර්මය දන්න කෙනෙක්. ඒක හරි ලස්සන සිදුවීමක්. සැවැත්නුවර ජේතවනාරාමයේ භාග්‍යවතුන් වහන්සේ වැඩ ඉන්නකොට මුළු දෙව්රම් වෙහෙරම ඒකාලෝක කරගෙන ඛේම කියන දේවපුත්‍රයා භාග්‍යවතුන් වහන්සේ ළඟට පැමිණියා. පැමිණිලා බුදුරජාණන් වහන්සේට බොහෝම ගෞරව ඇතිව වන්දනාමාන කරලා භාග්‍යවතුන් වහන්සේට පවසනවා මෙන්න මෙහෙම. චරන්ති බාලාදුංමේධා අමිත්තේ නේව අත්තනා කරුන්තා පාපකං කම්මං යං හොති කටුකං ඵලං - ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස ප්‍රඥා රහිත මෝඩ මිනිස්සු ජීවත්වෙන්නෙ තමන්ම තමුන්ට සතුරු වෙලා. ඒ ඇයන්ගේ ජීවිතය නිකං තමන්ම තමන්ට සතුරෙක් විදියට ගත කරන ජීවිත. නපුරු විපාක දෙන බොහොම භයානක කර්ම, පාපකර්ම තමයි උන්දලා කරගන්නෙ. ඒ පව් කරන ජීවිතයට තමයි කිව්වෙ තමන් තමන්ට හතුරු වෙනවා කියලා. යමෙක් ප්‍රාණඝාත කර කර නම් ජීවත් වෙන්නේ ඒ පුද්ගලයා තමන්ටම හතුරෙක්. යමෙක් හොරකමින් නම් ජීවත් වෙන්නෙ ඒ පුද්ගලයා තමන්ම හතුරෙක්. යමෙක් සල්ලාලකමින් නම් ජීවත් වෙන්නෙ ඒ පුද්ගලයා තමන්ටම හතුරෙක්. යම් කිසි කෙනෙක් මත්පැන් මත්ද්‍රව්‍ය පාවිච්චි කර කර නම් ජීවත් වෙන්නෙ ඒ පුද්ගලයා තමන්ටම හතුරෙක්. ඒ පුද්ගලයාගේ කය හැසිරවීම තමන්ටම කරන හතුරුකමක්. ඒ කය හසුරුවන විදියෙන් තමන්ට යහපතක් සිද්ධ වෙන්නෙ නෑ. තමන්ම තමන්ට හතුරුකම් සිද්ධ කරගන්නවා. බලන්න පින්වතුනි මේ ලෝකය දිහා ඇස් ඇරලා බලද්දි

එතකොට ජේනවා වැඩිපුර මිනිස්සු ජීවත් වෙන්නෙ තමන්ටම හතුරුකම් කර කර. බුදු කෙනෙකුගේ ධර්මයක් අහන්න ලැබිච්චි සත්පුරුෂ ඇසුරක පහස ලබන්න ලැබිච්චි සුළු පිරිසකට විතරයි තමන්ට තමන් හතුරුකම් කරන්නැතිව ජීවත් වෙන්න ලැබිලා තියෙනවා. සමහරු කට පාවිච්චි කරන්නෙ හතුරෙක් හතුරෙක් වෙනුවෙන් කට පාවිච්චි කරනවා වගේ. බොරු කියනවා, කේලම් කියනවා, පරුෂ වචන කියනවා, හිස් වචන කියනවා, හතුරෙකුට කරනවා වගේ. මේ අඟල් දෙකක් තුනක් පළල කට හතුරෙක් පාවිච්චි කරනවා වගේ පාවිච්චි කරනවා තමන්ගේ විනාශය පිණිස. ඇතැම්හු හිත හසුරුවන්නේත් තමන්ට හතුරුකම් කරනවා වගේ, ලෝභයෙන් ඉන්නවා, අධික ද්වේෂයෙන් ඉන්නවා, මිත්‍යා දෘෂ්ටික වෙනවා තමන්ම තමන්ට හතුරො වෙච්චි අය. නතං කම්මං කතං සාධු යං කත්වා අනුතප්පති - යම් දෙයක් කලාට පස්සෙ ඒ අනුව දුක නම් උපදින්නෙ එහෙම දේවල් කරන්න හොඳ නෑ. යස්ස අස්සු මුඛො රෝදං විපාකං පටිසේවති - කරපු එකේ විපාකය අඬ අඬා විඳවන්න වෙනවා නම් මොකටද ඒ ජාතියෙ එව්වා. යම් දෙයක් කරගතත්තට පස්සෙ ඒකෙ විපාකය කරකැවිලා එනකොට අඬන්න නම් තියෙන්නෙ, හූල්ලන්න නම් තියෙන්නෙ, සුසුම් හෙල හෙල විඳවන්න නම් තියෙන්නෙ එබඳු කර්ම කරගන්න එපා. කයින් වැරදි කිරීම යනු එබඳු කර්මයකි. ඒකෙ විපාකය එනකොට අඬ අඬා උහුලගන්න බැරිව විඳවනවා. දැන් බලන්න ප්‍රාණඝාත කරපු අය සාංසාරික ගමනේ මනුස්ස ලෝක වලට එනකොට ඒ අය ප්‍රාණඝාතය නිසා අඩුවයසින් මිය යනවා. ඒ විපාකය හරි කටුකයි. සතුන්ට හිංසා කරපු අය මනුස්ස ලෝකෙට එනකොට ලෙඩ ගොඩවල්. ජීවත් වෙනවා කියලා කියන්නෙ විඳවිල්ලක්. භයානක විඳවිල්ලක්. අඬ අඬා ඒවා විපාක විඳින්න වෙන්නෙ. සල්ලාලකම් කරපු අය මේ මනුස්ස ලෝකෙට එනකොට සල්ලාල කම නිසා සමහරවිට ලිංගිකාශ්‍රිත බොහොම භයානක ලෙඩ. ඒ අවයව තමන්ටම පිළිකුලයි, ඒ විදියට ලෙඩ වෙනවා. එහෙම නැත්නම් ආදරය සෙනෙහස ප්‍රේමය කැමැතියි, ලැබෙන් නෑ. හරි කටුකයි, හරි කර්කශයි ඒ ජීවිතේ. බොරු කිය කිය හිටපු අය මේ මනුස්ස ලෝකෙට එනකොට රැවටෙනවා එක දිගට. කවුරුත් එයාගෙ වචන ගණන් ගන් නෑ. කේලාම් කිය කිය හිටපු අය මනුස්ස ලෝකෙට එනකොට ඒ අයගේ ජීවිත සැනසිල්ලක් නෑ, හැමතිස්සේම ජීවිතේ ගිනි. නොකරපු වැරදි වලට තමන් අහුවෙනවා. අනවශ්‍ය ප්‍රශ්න. පරුෂ වචන කිය කිය ජීවිතේ ගත කරපු අය ඒ කර්මය හේතුවෙන් ආයෙ මනුස්ස ලෝකෙකට ආවොත් එහෙම කටුක කර්කශ වචනමයි අහන්න වෙන්නෙ. හිත පැරී පැරී විඳවන්න සිද්ධ වෙනවා. බලන්න මේ

විඳවිලි. යමක් විඳින්න වෙන්නෙ අඬ අඬා නම් කඳුළු පිරුණු මුහුණින් නම් එහෙම ඒවා කරගන්න එපා. තඤ්ච කම්මං කතං සාධු යං කත්වා නානුතප්පති යස්ස පතීතො සුමනො විපාකං පටිසේවති - යම් දෙයක් කලාට පස්සෙ පසුතැවිල්ලක් උපදින්නෙ නැත්නම් අනේ ඒ වගේ දේවල් කරගන්න එක කොයිතරම් හොඳ ද. ඒ කර්මයන්ගේ විපාක සතුට පිරුණු මුහුණින් විඳින්න පුලුවන් නම් එබඳු දේවල් කරගන්න එකයි හොඳ. මේ කවුද කිව්වෙ, අර ඛේම කියන ධර්මය දන්න දේවපුත්‍රයා. භාග්‍යවතුන් වහන්සේත් එක්ක මේ සුන්දර දහම් කතාවකට එළඹෙන්නයි මේ දේවපුත්‍රයා මේ ගාථා කිව්වෙ. ඒ අර්ථවත් ගාථා භාග්‍යවතුන් වහන්සේට පැවසුවාම බුදුරජාණන් වහන්සේ එයට සුදුසු ආකාරයේ ලස්සන අර්ථයක් එකතු කලා. පටිගච්ඡෙව තං කයිරා යං දඤ්ඤා හිතමත්ථනො න සාකටික චින්තාය මන්තා ධීරො පරක්කමෙ - යමක් තමන්ට හිත සුව පිණිස තියෙන බව දන්නවා නම් ඒක තමයි ඉස්සෙල්ලාම කරන්න ඕන. ප්‍රඥාවන්ත වීර්යවන්ත කෙනා නොමග ගිය ගැල්කරුවෙක් වගේ හිතන්න හොඳ නෑ, ප්‍රඥාවන්ත වීර්ය වන්ත කෙනා නොමග ගියපු ගැල්කාරයෙක් වගේ හිතන්න හොඳ නෑ. යතා සාකටිකො පන්තං සමන්හිත්වා මහාපථං විසමං මග්ග මාරුය්හ අක්කච්ඡින්නොව ජායතී - සමහර ගැල්කරුවො ඉන්නවා හොඳට තියෙන මහාමාර්ගය අතහැරලා විසම මාර්ගයේ යනවා. අන්තිමට තමන්ගේ කරත්තෙ රෝදත් කඩාගෙන කල්පනා කර කර ඉන්නවා. මග වරද්දගන්න අය ගැන කිව්වෙ. හොඳට පාර තියෙද්දි ඒ අය මේ අකුලවල් අස්සේ රිංගන්න යනවා. හරියට හොඳට මාවත තියෙනකොටත් විසම මාර්ගයේ යන්න ගිහිල්ලා නැහෙන රියදුරෝ වගේ. පාර හොඳට තියෙද්දි රථයට දරාගන්න බැරි පාරවල් වල යන්න ගිහිල්ලා රථ රෝද කඩාගෙන ඒ රියදුරෝ විනාශ වෙනවා වගේ තමයි කිව්වා මේ මනුස්සයා තමන්ගේ ජීවිතය නොමග හෙලාගෙන ඒ නොමග නිසා වැනසී යන්නෙ. ඒ වැනසීම පින්වතුනේ මෙලොවටත් වැනසීමයි, එය පරලොවටත් වැනසීමයි, එය සසරටම වැනසීමයි. කාය දුෂ්චරිතය යනු නොමගයි. වචී දුෂ්චරිතය යනු නොමගයි. මනෝ දුෂ්චරිතය යනු නොමගයි. මිත්‍යා දෘෂ්ටිය යනු නොමගයි. මිත්‍යා දෘෂ්ටික කර්ම සමාදන් වීම, මිත්‍යා දෘෂ්ටිකයො කරන ලාමක වැඩ කරන එක නොමගයි. ආර්යයන්ට උපවාද කිරීම නොමගයි. ආර්ය උපවාදය උත්තමයන්ට ගර්හා කිරීම, සිල් ගුණ පුරන උතුමන්ට අපහාස කිරීම, ඒක නොමඟ. ඊළඟට ශාස්තෲන් වහන්සේගේ චේචා, රහතන් වහන්සේලාගේ චේචා, සීලවන්තයන්ගේ චේචා උතුම් සෑරජාණන් වහන්සේලා, ධාතූන් වහන්සේලා, ඒ පූජනීය තැන්වලට ගරහනවා නම් අපහාස

කරනවා නම් ඒකත් නොමග. හරිම භයානකයි පින්වතුනේ සංසාරික ස්වභාවය. දැන් මනුස්සයො විදියට අපිට මේ ජීවිතේ බොහෝ දෙනෙකුට කතා කිරීමේ හැකියාව, අත පයින් වැඩ කිරීමේ හැකියාව, හිතීමේ හැකියාව ලැබිලා තියෙනවා. ඇත්තටම ජීවත් වෙනවා කියලා අපි කරන්නෙ ඔය තුන ක්‍රියාත්මක කරන එකනෙ. අපි හිතින් හිතනවා, කයින් කටයුතු කරනවා, වචන කතා කරනවා. ඕක ඔය විදියට කටයුතු කරනකොට බොහෝ දෙනෙකුගේ ජීවිත කතාවේ තියෙන්නෙ තමන්ගේ කය වෙහෙසවන්නේත් තමන්ට හතුරුකමක් විදියට. වචන ක්‍රියාකරවන්නේත් තමන්ට හතුරුකමක් විදියට. හිත මෙහෙයවන්නෙත් හතුරු කමක් විදියට. අපේ ඉතා පැරණි බණ කතා වල තියෙනවා මේ ලංකාභූමියේ සිද්ධ වෙච්ච් අතීත සිද්ධියක්. ඒ කාලෙ භික්ෂූන් වහන්සේලා පිරිසකට හිතක් උපන්නා දඹදිව සතර ස්ථාන වන්දනාමාන කරගෙන එන්න ඕන කියලා. අපගේ මහා කාරුණික බුදුරජාණන් වහන්සේගේ උතුම් බෝධි චෛතිය, ජාත චෛතිය, ධම්ම චෛතිය, නිබ්බාණ චෛතිය වැඳගන්න ඕන කියලා හිතක් උපන්නා. දැන් ලංකා භූමියේ භික්ෂූන් වහන්සේලා ඒ කාලෙ කවුරුවත් ඔළුව අවුල් කලේ නෑනෙ බුදුන් උපන්නේ ලංකාවේ කියලා. ඒ නිසා ඒ පින්වතුන් වහන්සේලා තමන්ගේ ශාස්තෘන් වහන්සේගේ ඒ උතුම් චෛතිය වන්දනා කරගන්න හිතක් උපද්දලා උන්වහන්සේලා නැව් නැගුනා. ඉතින් ඒ කාලෙ ඉන්දියාවට යාගන්න තිබුනු ක්‍රමය, නැව් නැගීම. උන්වහන්සේලා නැව් නැගුනා. නැව් නැගලා බුදුවරුන්ගේ දේශය වන ඒ පුණ්‍ය භූමියට යන්න පිටත් වුනා. පිටත් වෙද්දි පින්වතුනි නෞකාව කුණාටුවකට හසුවුනා. නැව බලාපොරොත්තු වෙන තොටුපලට යන්නෙ නැතිව මේ නැව කරකැවිලා ගිහිල්ලා වෙන කොහෙදෝ කැලයකට, කැලෑ ප්‍රදේශයක වෙරළකට ගොඩ ගැහුවා. දැන් මේ ස්වාමීන් වහන්සේලා ටික විතරයි මේ නෞකාවෙ හිටියේ. මේක පොඩි නැවක්. ඉතින් ස්වාමීන් වහන්සේලා දැන් දන්නෙ නෑ. ස්වාමීන් වහන්සේලා බැස්සා. තාම අඳුර වැටිලා නෑ. ඒ නිසා මේ ස්වාමීන් වහන්සේලා කල්පනා කලා අඳුර වැටුනොත් එහෙම මේ ඝන වනාන්තරයේ නොයෙක් සතා සීපාවො ඇවිල්ලා අනතුරු වෙන්න පුලුවන්. ඒ නිසා අපි සවස් කාලය එළඹෙන්න කලින් ආරක්ෂිත තැනක් හොයාගන්න ඕන. ස්වාමීන් වහන්සේලා වටපිට බලනකොට පේනවා උස කන්දක්. ඉක්මන් ඉක්මන් කරලා මේ කන්ද නැගගත්තා. කන්ද මුදුනට ගිහිල්ලා මේ කන්ද මුදුනේ පොඩි ගල්තලාවක් තිබ්බා. ගල්තලාවේ වාඩිවෙලා උන්වහන්සේලා වටපිට බලනවා. වටපිට බලද්දි අඳුර වැටීගෙන එන වෙලාවේ පේනවා පහල ඈත කවුරුහරි කෙනෙක් ඈත

හානවා. එතකොට මේ ස්වාමීන් වහන්සේලා කල්පනා කලා මේ පුරුෂයෙක් හානවා. පුරුෂයෙක් හානවා කියලා කියන්නෙ මේ සමීපයටම වෙන්න ගමක් ඇති එහෙනම් අපිට ප්‍රශ්නයක් නෑ, අපිට යම් රැකවරණයක් අපිට ආරක්ෂාවක් තියෙනවා. හෙට ඒ මිනිස්සුන්ගෙන් අහගෙන අපිට මේ දඹදිව පාරක් තොටක් හොයාගන්න පුලුවන් කියලා. ඉතින් ස්වාමීන් වහන්සේලා නැගගත්තු ගල්කුල උඩ විවේක ගත්තා. ඔන්න උදෑසන එළිය වැටුනා. එළිය වැටුනාට පස්සේ මේ ස්වාමීන් වහන්සේලා පහලට බැහැලා බලනවා අර පුරුෂයා ඉන්නවා. මේ පුරුෂයා මෙන්න මේ සවස් කාලෙත් හාමින් හිටපු මිනිහා තාම හානවා. ඉතින් ස්වාමීන් වහන්සේලා ළඟට ඇවිල්ලා කිව්වා පින්වත, චූට්ටක් නවතින්න අපිට ඔබත් එක්ක කරුණක් කතා කරන්න කිව්වා. මේක කියනකොටම මේ පුද්ගලයාට කේන්ති ගියා. කේන්ති ගිහිල්ලා කිව්වා නවතින්න පුලුවන් නම් මං නැවතිලා ගොඩාක් කල්. මාත් මේ ඉන්නෙ නවත්වගන්න බැරිවයි කිව්වා. එතකොට මේ ස්වාමීන් වහන්සේලාට මේ කියපු එක තේරුන් නෑ. ස්වාමීන් වහන්සේලා කිව්වා පින්වත, ඔබ කියන්නෙ මොකක්ද කියලා අපිට නම් නොතේරේ. අපිට අහගන්න උවමනාව තියෙන්නෙ මේ ළඟ ගම්මානයක් තිබේද කියලා. අපි මේ අතරමං වෙච්චී භික්ෂූන් කිව්වා. එතකොට ඔහු අහනවා, භික්ෂූන්? භික්ෂූන් කොයි බුදුරජාණන් වහන්සේගේද කියලා ඇහුවා. කිව්වා, ඇයි පින්වත එහෙම අහන්නෙ අපි ගෞතම බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයොනෙ. මහා කම්පාවකට පත්වෙලා ඔහු මහ හඬින් කිව්වා අයියෝ ගෞතම බුදුරජාණන් වහන්සේත් පහළ වුනාද. බුද්ධාන්තරයකුත් ගතවුනාද. මම තාම මේකෙද, මොකක්ද මට වෙච්චි නස්පැත්තිය කියලා කෑගැහුවා. එතකොට මේ භික්ෂූන් වහන්සේලා කියනවා පින්වත ඔබ කියන එකේ අගමුලක් අපිට තේරෙන් නෑ. අපිට පහදන්න. අනේ ස්වාමීනී මම කාශ්‍යප බුද්ධ කාලයේ හිටපු කෙනෙක්. මං කාශ්‍යප බුද්ධ කාලයේ මං ගොවියෙක්. මගේ යාළුවා හරි ශ්‍රද්ධාවන්තයි. මගේ යාළුවො ටික කල්පනා කලා ගොවි පවුල් ටික ඔක්කොම එකතු වෙලා දානයක් දෙන්න ඕන කියලා බුද්ධ ප්‍රමුඛ මහාසඟරුවනට. දානෙට ඒ ගොල්ලො කටයුතු සංවිධානය කරගත්තා. ඒ කටයුතු සංවිධානය කරගත්තා දානය යොදාගත්තු දවස අපේ කුඹුර හාන දවස. ඉතින් මං කුඹුරු හාන්න පිටත් වෙනවා දැකලා මගේ මිත්‍රයෙක් මට කිව්වා, අනේ මේ අද දවසේවත් ඔය වැඩේ පොඩ්ඩක් නවත්වලා දානෙ ටිකක් පූජා කරගන්න මෙහෙ නැවතියං කිව්වා. බුදු කෙනෙකුට දන් දෙන්න ලැබෙනවා කියන්නෙ ලේසි පහසු දෙයක්ද. මහා සඟරුවනට දන් දෙන්න ලැබෙනවා

කියන්නෙ ලේසි පහසු දෙයක්ද, ඔය කුඹුරු වැඩේ කවදා කරගන්න බැරි දෙයක්ද. දානෙ ටිකක් පූජා කරගන්න නැවතියං කිව්වා. කිව්වහම මේ පුද්ගලයා කේන්ති ගිහිල්ලා ඉදිමිච්චි හිතකින්, අර යාළුවන්ට නිකං අවඥාවෙන් කිව්වා, හා හා මං කුඹුරු වැඩේ නවත්වලා මං දානෙ බෙදන්න එන්නම්. උඹලාගේ බුදු හාමුදුරුවන්ට කියාපං මගේ කුඹුර හාලා දෙන්න කියලා. එහෙම කිව්වා. කියන්න ලේසියි වචන. පිට කරන්න ලේසියි. ඒ පිටකරාපු එක දිරවගන්නවා කියන එක, ගුණවතුන් කෙරෙහි වරදවා පිළිපැදපු වචනය දිරවනවා කියන එක, අන්න ඒකයි භයානක. කය හසුරුවන්න පුලුවන්, කයින් ප්‍රාණඝාත කරන්න පුලුවන්. කයින් සල්ලාකම් කරන්න පුලුවන්. කාටවත් අහුවෙන් නැතිවෙන්නෙ. කයින් බීලා කරලා ඉන්න පුලුවන්. කයින් අනුන්ගේ ඒවා හොරකම් කරන්න පුලුවන්. හැබැයි ඒකෙ විපාකය දිරවන්න අමාරුයි. මේ කට පාවිච්චි කරනකොට හිස් වචන, කේලම්, පරුෂ වචන, ආර්ය උපවාද, පණ්ඩිතකම් ඔක්කොම කියන්න පුලුවන්. ඒවාගේ විපාක දිරවන්න අමාරුයි. හිත හසුරුවනකොටත් අනුන්ගේ ඒවාට ලෝභකම් කර කර, ද්වේෂයෙන් කිපි කිපී මේ හිත හසුරුවන්න පුලුවන්. මිත්‍යා දෘෂ්ටි පස්සේ පටලැවී පටලැවී මේකමයි හරි මේකමයි හරි කිය කියා යන්න පුලුවන්. හැබැයි ඒ හිත හසුරුවපු විදියට කර්ම විපාක හැදෙනවා. ඒක දිරවන්නයි අමාරු. බලන්න එදා ශාස්තෘන් වහන්සේ නමක් කෙරෙහි වරදවා හිතුවිල්ලක් උපද්දවා, ඒ වරදවා උපද්දවන ලද සිතුවිල්ලෙන් යුක්තව වචනය කතා කලාද හරියට හොඳට පාර තියෙද්දිත් නිකං අකුපිලක තමන්ගේ රථය දාගෙන රථයේ රෝදත් කඩාගෙන අන්ත අසරණ වෙච්චි රියදුරෙක් වගේ කට හින්දා නැසුනා. කාශ්‍යප බුද්ධ ශාසනයෙන් පස්සෙ කෙලින්ම උපන්නේ නිරයේ. නිරයේ ඉපදිලා නිරයේදී යමපල්ලො අල්ලා ගන්නවා කියනවා. අල්ලාගෙන යකඩ ගිනියම් වූ කොකු වලින් මේ කට ඇත් කරනවා, ඇත් කරලා ලෝදිය වත්කරනවා. මේ ශරීරයේ අඟපසඟ ඔක්කොම පුච්චගෙන ඒ ලෝදිය පිටවෙන්නෙ. විඳවනවා. බුදුරජාණන් වහන්සේ උදෙසා වචනයක් වරදවා පිළිපැදලා, ශාස්තෘන් වහන්සේගේ ශාපයක් නොවේ. මහා කාරුණික බුදුරජාණන් වහන්සේ ලෝකයට අනුකම්පාවෙන්ම පහළ වෙලා අනුකම්පාවෙන්ම ලෝකයේ වැඩ ඉදිද්දී ඒ බුදුරජාණන් වහන්සේ කෙරෙහි වරදවා පිළිපැදීමේ දරුණු විපාකය. ලෝදිය වක් කර කර ඒක විඳෙව්වා කාලයක්. විඳවලා විඳවලා විඳවලා එතනින් උඩට ආවා කියලා ආවෙ පෙරේත ලෝකෙට. පෙරේතයෙක්, ඒ පෙරේතයාට පෙරේත ලෝකය තුළ ගිනියම් වෙච්චි මඩ සහිත කුඹුරක් තියෙනවා, ඒ පෙරේත ලෝකයේ ඔහුට ඉන්නවා හරක් දෙන්නෙක්.

ඔහුට තියෙනවා ගිනියම් වෙච්චි නගුලක්. ඔහුට ඉහළින් හැමතිස්සේම ඉර පායලා තියෙනවා. ඔහුට හැමතිස්සමෙ දැනෙන්නෙ ඉවසගන්න අමාරු සූර්ය රශ්මියක්. කෙවිටක් අරගෙන නොනැවතී හානවා. බුද්ධාන්තරයක් තිස්සෙ හානවා. ඉවරයක් නෑ. ගිනියම් වෙච්චි මඩක පිච්චි පිච්චි හානවා. තමන් කරපු කර්ම විපාකයත් තමන්ට මතකයි. විඳව විඳවා හානවා. අයියො මං එදා ඒ වචනය පිට නොකලා නම්. අන්න ඒකයි පින්වතුනේ මේ ජීවිතයේ අපිට සත්පුරුෂයෙක් මුණගැහිලා ඕක වැරදියි කියලා කියලා දෙනවා නම්, මේ ජීවිතයට සැලසෙන මේ ජීවිතයට මුණගැහෙන ඊට වඩා යහපතක් තව නෑ. අපිට වැරදි දේ වැරදියි කියලා කියලා දෙන්න සත්පුරුෂයෙක් මුණගැහෙනවා නම් ඊට වඩා යහපතක් තව නෑ. අපිට අඩුපාඩුවක් සිද්ධ වෙනකොට ඒ අඩුපාඩුව පහදලා දෙන්න කල්‍යාණමිත්‍රයෙක් මුණ ගැහෙනවා නම් ඊට වඩා මේ ජීවිතයට තවත් යහපතක් නෑ. ඒවං ධම්මා අපක්කම්ම අධම්ම මනුවත්තිය මන්දෝමච්ඡුමුඛං පත්තු අක්කච්ජින්නොව ජායතීති - අඥානයාගේ ස්වභාවයත් ඔන්න ඔය වගේ. ඔහු පැහැදිලි ධර්ම මාර්ගය තියෙද්දි ඒ පැහැදිලි ධර්ම මාර්ගයෙන් බැහැර වෙනවා. ධර්මය යැයි කියා අධර්ම මාර්ගයට බැස ගන්නවා. අන්තිමේදී මරණය ඉදිරියේ කරත්තේ රෝද කඩාගත්ත ගැල් කාරයා වගේ, තමන්ගේ රථයේ රෝද කඩගාත්තු ගැල්කාරයා වගේ අන්ත අසරණ වෙලා කල්පනා කර කර, කල්පනා කර කර ඉන්නවා, එච්චරයි ඔහුට උරුම. ඉතින් ජීවිතයේ මේ අභාග්‍යයට වැටුනොත්, මේ අභාග්‍යයට ජීවිතය වැටුනොත් පින්වතුනේ ඒ අභාග්‍යයෙන් ගොඩ එන්න ලේසී නෑ. මොකක්දෝ භාග්‍යයකට මනුස්ස ලෝකෙට ඇවිල්ලා මේ මනුස්ස ලෝකය තුළ සත්පුරුෂයින්ගේ බණ පද අහන්න ලැබෙනවා කියලා කියන්නෙ ජීවිතේ යහපත හදාගන්න තියෙන වේලාව. ඒ නිසා පින්වතුන්ලා හොඳට තේරුම් ගන්න අපි අපේ ජීවිතේ යහපත හදාගන්න ඕන මේ සත්පුරුෂයො මුණගැහිච්චි වෙලාවේ. සත්පුරුෂයො මුණගැහිච්චි වෙලාවේ අපි අපේ ජීවිතය හදාගන්න මහන්සි ගත්තොත් අපිට යහපත් ධාතුත් එක්ක එකතු වෙන්න ලැබෙනවා. පින් කරන්න පටන් ගත්තොත් පින් කරන අයත් එක්ක එකතු වේවි. ආසාවෙන් බණ අහන්න ගත්තොත් ආසාවෙන් බණ අහන අයත් එක්කම එකතු වේවි. ධර්මය නුවණින් විමසන්න පටන් ගත්තොත් ධර්මය නුවණින් විමසන අයත් එක්කම එකතු වේවි. සිල් ගුණ ආරක්ෂා කරන්න පටන් ගත්තොත් සීලයට කැමැති අයත් එක්කම එකතු වේවා. ප්‍රඥාව දියුණු කරන්න මහන්සි ගත්තොත් ප්‍රඥාව දියුණු කරන්න මහන්සි වෙන අයත් එක්කම එකතු වේවා. ධර්මය හැසිරීමට වීර්යය

වැඩුවොත් වීර්යවන්තයොත් එක්කම එකතු වේවි. අන්න ඒ යහපත, ඒ යහපත තියෙනවා මේ මනුස්ස ජීවිතේ හදාගන්න. ඒ යහපත හදාගන්න හැබැයි තම තමන් උඩඟු නැතිව දක්ෂ වෙන්න ඕන. බලන්න අර තිස් නමක් වූ තෙරණින් වහන්සේලා පටාචාරා අර්හත් උත්තමාවියගේ ඒ ලස්සන බණ පදය ආසාවෙන් අහගෙන හිටියා. ඒ බණ පදය මොකක්ද. යං දෙයක් කලාට පස්සෙ තැවෙන්නේ නැත්නම් අන්න ඒ බුද්ධානුශාසනාව තමයි කරන්න ඕන. ඉක්මණට පාසෝද්‍රාගන්න, නිදහස් තැනක වාඩිවෙන්න, චිත්ත සමාධියක් ඇති කරගන්න මේ බුද්ධ ශාසනය සම්පූර්ණ කරගන්න මහන්සි ගන්න. ඉතින් ඒ තමයි පටාචාරා තෙරණියගේ අවවාදය. ඒ අවවාදය ඇහුවට පස්සෙ දැන් ඒ අයට මුණගැහුනා සත්පුරුෂ ඇසුර, කල්‍යාණමිත්‍ර ඇසුර. කළයුත්ත හරියට පහදාදෙන ඇසුර. මේ ඇසුර ගැන බුද්ධ ශාසනයේ වර්ණනා කරන්නෙ නිධීනං ව පවත්තාරං යං පස්සේ වජ්ජදස්සනං. තමන්ගේ කයෙන් වෙන වැරදි තමන්ගේ වචනයෙන් වෙන වැරදි, තමන්ගේ සිතින් වෙන වැරදි තමන්ට මේ ජීවිතය ගත කරනකොට වරදින් අවස්ථා පෙන්වලා දෙන, නිධානයක් පෙන්වනවා වගේ වැරැද්ද පෙන්වන, නිධානයක් පෙන්වනවා වගේ වරදින්න තියෙන අවකාශය පෙන්වලා දෙන, නුවණැත්තෝ ඇසුරු කරන්න. නිග්ගය්හවාදිං මේධාවිං තාදිසං පණ්ඩිතං භජෝ - සිත කය වචනයෙන් කරන අකුසල් වලට නිග්‍රහ කරන, වැරදි විදියේ හැසිරීම් වලට ගර්හා කරන සත්පුරුෂයන්ව ඇසුර ට එකතු කරගන්න. තාදිසං භජමානස්ස සෙය්‍යා හොති නපාපියො - හොඳ උතුම් අය ඇසුරු කලොත් මට යහපතක් වෙයි. කිසි කලෙකත් අයපහතක් නම් වෙන්නේ නැහැ. එහෙම තමයි බුදුරජාණන් වහන්සේගේ ධර්මයේ නුවණැත්තො ඇසුර ගැන, ප්‍රඥාවන්තයො ඇසුර ගන, සත්පුරුෂයො ඇසුර ගැන සඳහන් වෙන්නෙ. දැන් බලන්න මේ පින්වන්ත තිස් නමට අවස්ථාව ලැබුනා එහෙම උතුම් සත්පුරුෂ තෙරණින් වහන්සේ නමක් පටාචාරා භික්ෂුණීන් වහන්සේ මේ බුද්ධ ශාසනයේ විනයධර භික්ෂුණීන් අතර අග්‍ර භික්ෂුණිය. ඊළඟට මේ පටාචාරා තෙරණියගේ ජීවිතය ගත්තහම ථෙරීගාථා ඉගෙන ගනිද්දින් පින්වතුනේ අපිට තේරෙන එකක්. හරියට රහත් තෙරණින් වහන්සේලා බිහි වෙලා තියෙනවා, පටාචාරාවගේ බණ අහලා. ඒකට හේතුව පටාචාරා භික්ෂුණියට හරි ලස්සනට දහම් කතාව කරන්න හැකියාව තිබිලා තියනවා. ඉතින් පටාචාරා භික්ෂුණියගේ බණ පද අහල ඒ තිස්දෙනා වහන්සේ ධර්මය දියුණු කරන්න මහන්සි ගත්තා. ඒ සිදුවීම ගැන ථෙරී ගාථා වල කියන්නෙ මේ විදියටයි. පටාචාරා භික්ෂුණිය තමයි ඒ භික්ෂුණීන්ට ඔය

විදියට අනුශාසනා කලේ. ඒ භික්ෂුණීන් පිරිසත් ඒක ඉතා හොඳට අහගත්තා. පාසෝදගත්තා. හුදෙකලා තැනක වාඩිවුනා. වීර්යයෙන් වාඩිවෙලා චිත්ත සමාධිය ඇතිකරගත්තා. බුද්ධ ශාසනය සම්පූර්ණ කරගත්තා. බුද්ධ ශාසනය සම්පූර්ණ කරගත්තා කියන්නෙ නිවනින් සැනසුනා. රත්‍යා පුරමෙ යාමෙ පුබ්බජාතිං අනුස්සරුං - ඒ තිස්දෙනා වහන්සේම රෑ පළමු යාමයේදී කලින් ගත කළ ජීවිතය ගැන දැනගත්තා. පළමුවෙනි විද්‍යාව පුබ්බේ නිවාසානුස්මති ඥාණය, රෑ මධ්‍යම යාමයේ දිබ්බචක්ඛුං විසෝදයුං - මේ රෑ මැදියම් යාමයේ දිවැස් නුවණ පිරිසිදු කරගත්තා. මේ දිවැසු නුවණ කියලා කියන්නෙ පින්වතුනේ චුතූපපාත ඥානය. දෙවැනි විද්‍යාව රත්‍යා පච්චිමේ යාමෙ තමෝක්ඛන්ධං පදාලයුං - පාන්දර වෙනකොට අන්ධකාර නම් වූ කෙලෙස් කඳ බිඳලා දැම්මා. තුන්වෙනි විද්‍යාව - ආසවක්ඛය ඥාණය, සියලු කෙලෙසුන් දුරු වුනා කියන නුවණ උපදවගත්තා. ඒ අපදවාගත්තු අරහත් උත්තමාවියො, බුදුරජාණන් වහන්සේගේ දියුණුවරු තමන්ට මේ උතුම් සැනසීම උදා කරපු කල්‍යාණමිතුරිය වන පටාචාර තෙරණින් වහන්සේ ළඟට යනවා. ඒ තෙරණින් වහන්සේ ළඟට ගිහිල්ලා තිස්දෙනාම මෙහෙම කිව්වා. උට්ඨාය පාදෙ වංදිං සො කථා තෙ අනුසාසනෙ ඉංදං ව තිදසා දේවා සංගාමේ අපරාජිතං පුරක්ඛත්වා විහරියාම තේවිජ්ජං මනාසවාතෙ - අපි ඔබතුමියගේ අනුශාසනාව අනුව වැඩකරගත්තා කියලා ඒ භික්ෂුනී පිරිස පටාචාරා උත්තමාවියගේ දෙපා වැන්දා. සුර අසුර යුද්ධයෙන් ජය ගත්තාට පස්සෙ තව්තිසා දෙවියෝ සක්‍රයාට සළකනවා වගේ අපිත් ඔබතුමිය පෙරටු කරගෙන ඉන්නවා. ත්‍රිවිද්‍යාව ලබාගෙන කෙලෙස් රහිතව ඉන්නවා කියලා ඒ රහත් තෙරණින් වහන්සේලා අවසානයේ අපේ පටාචාරා අර්හත් උත්තමාවියට වන්දනාමාන කලා. ඉතින් සත්පුරුෂයෙකුගේ ඇසුර මුණගැහුනොත් ඔහොම තමයි සිද්ධ වෙන්නෙ. ඉතින් සත්පුරුෂ ඇසුර ගැන එක අවස්ථාවක භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ අභිමුඛයට දෙවිවරු පිරිසක් ඇවිල්ලා සත්පුරුෂ ඇසුර ගැන වර්ණනා කලා. ඒ දෙවිවරු කියනවා ස්වාමීනී සත්පුරුෂයන් එක්කමයි ඉන්න ඕන, සත්පුරුෂයන් එක්කමයි යාළුවෙන්න ඕන, සත්පුරුෂයන්ගේ සද්ධර්මය දැනගත්ත කෙනා හරී සන්තෝෂයෙන් ඉන්න කෙනෙක් කිව්වා. තව දෙවි කෙනෙක් කිව්වා සත්පුරුෂයොත් එක්කමයි ඉන්න ඕන ස්වාමීනී සත්පුරුෂයන් එක්කමයි යාළුවෙන්න ඕන, සත්පුරුෂයන්ගේ සද්ධර්මය දැනගත්ත කෙනා ඥාතීන් මැද බබළනවා කිව්වා. තව දෙවියෙක් කිව්වා ස්වාමීනී, සත්පුරුෂයො එක්කමයි ඉන්න ඕන, සත්පුරුෂයන් එක්කමයි යාළුවෙන්න ඕන, සත්පුරුෂයන්ගේ

සොඳුරු සද්ධර්මය දැනගත්ත කෙනාට ශෝක වෙන ජනයා මැද ශෝක නොකර ඉන්න පුලුවන් කිව්වා. ඉතින් මෙහෙම නොයෙක් ප්‍රකාශ කලා. ඒ නොයෙක් ප්‍රකාශ කරලා ඒ දෙවිවරු අවසානයේ අහනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස අපි දැන් ගාථා කිව්වානෙ, ස්වාමීනී මේ කියපු ගාථා වලින් හොඳම ගාථාව මොකක්ද කියලා ඇහුවා. බුදුරජාණන් වහන්සේ වදාළා දෙවිවරුනි ඔබ මේ කියපු ගාථා ඇත්තටම හොඳ ගාථා, ඒ හැම එකක්ම සත්‍යය, දොස් නෑ. හැබැයි මගේ ගාථාවත් අහගෙන මතක තියාගන්න. බුදුරජාණන් වහන්සේ වදාළා සබ්බේරේව සමාසේථ සබ්බි කුබ්බේථ සන්තවන් - සත්පුරුෂයෝ එක්කමයි ඉන්න ඕන. සත්පුරුෂයන් එක්කමයි යාළුවෙන්න ඕන. සත්තං සද්ධම්ම මඤ්ඤාය - සත්පුරුෂයන්ගේ සද්ධර්මය දැනගත්ත කෙනා තමයි සියලු දුක් වලින් නිදහස් වෙන්නෙ. කොච්චර සත්‍යයක්ද. කොයිතරම් සත්‍යයක් ද. පටාචාරා නම් වූ ඒ සත්පුරුෂ කල්‍යාණමිතුරිය රහත් උත්තමාවියගේ ඇසුරට පත්වෙච්චි අර තිස් දෙනා වහන්සේටම සියලු දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබුනා. ඉතින් මේ ජීවිතේ පින්වතුනි ඒ නිසා අපිට සත්පුරුෂ ඇසුරක් ලැබෙනවා කියන එක මහා භාග්‍යයක්. ඒ භාග්‍යය ගැන හොඳට තේරුම් ගන්න ඕන. ඒ තේරුම් අරගෙන ලැබිච්ච සත්පුරුෂ ඇසුර රැකගන්නත් රැකගනිමින් සත්පුරුෂ ඇසුර තවදුරටත් දියුණු කරගන්නත් අපි දක්ෂ වෙන්න ඕන. ඉතින් ඒ දක්ෂකම උපදවාගත්තොත් තමයි අපිට රැකවරණයක් හැදෙන්නෙ. ඒ රැකවරණය හදාගත්තොත් අපිට පුලුවන්කමක් ලැබේවි, ඒ රැකවරණය හදාගත්ත කෙනාට පුලුවන්කම් ලැබේවි තමන්ගේ ජීවිතයේ සතුට පිරුණු මුහුණින් විඳින්න පුලුවන් විදියට හරී ලස්සනට හදාගන්න. තමන්ගේ ජීවිතේ දිහා එයා ආපහු හැරී බලනකොට සතුටු පිරුණු මුහුණකින් ඒ ජීවිතේ ගැන හිතන්න පුලුවන් නම් ඒක කොච්චර සැපක්ද. තමන් ජීවිතේ ගත කරපු එකේ විපාක යලි පෙරලා ලැබෙන්නේ සතුට උපද්දමින් නම් ඒක කොච්චර සැනසිල්ලක්ද. එහෙම සතුට උපද්දන්න පින්වතුනේ සිත කය වචනය පින් වැඩෙන විදියට හැසිරුවොත් කුසල් වැඩෙන විදියට හැසිරුවොත් වැරැද්දක් නොවෙන විදියට හැසිරුවොත්. අපිට සිත කය වචනය හසුරුවනකොට වැරැද්දක් නොවෙන විදියට හරියටම මේක හසුරුවන්න කවුද කියලා දෙන්නෙ. සත්පුරුෂයා ය. කල්‍යාණමිත්‍රයා ය. සත්පුරුෂ උතුම් තැනැත්තා ය. ඉතින් එහෙම කෙනෙක් ඇසුරට ලැබුනොත් ජීවිතේට යහපත මයි සිද්ධ වෙන්නෙ. භාග්‍යවතුන් වහන්සේ ඒ නිසා සත්පුරුෂ ඇසුර වර්ණනා කරනකොට වදාළා න භජෙ පාපකෙ මිත්තෙ - මහණෙනි, පව්ටු නම් ඇසුරු කරන්න එපා. න භජෙ

පුරිසාදමෙ - අධමයො ඇසුරු කරන්නටත් එපා. භජෙ ත මිත්තෙ කල්‍යාණෙ - මහණෙනි, ඇසුරු කරන්න, හොඳ යහපත් ගුණධර්ම තියෙන කල්‍යාණ වූ අය. භජෙ ච පුරිසුත්තමෙ - මහණෙනි ඇසුරු කරන්න අන් අයගේ යහපත කැමැති, අන් අයගේ දියුණුව කැමැති, අන් අයගේ හිත සුව කැමැති උතුම් පුරුෂයො. එහෙමයි වදාළේ. ඒ නිසා අපි මේ ලස්සන චරිතාපදාන අහන්නෙ මේ බුද්ධ ශාසනය තුළ හරියට සත්පුරුෂ ඇසුර ගලපාගෙන නිවනින් සැනසිච්චි ජීවිත වල චරිතාපදානනෙ. ඉතින් අපි අද ඉගෙනගත්තා එකටම පින් කරගෙන ඇවිල්ලා එකටම සැපයට පත්වෙලා එකටම නිදහස් වෙච්චි මහා පින්වන්ත රහත් තෙරණිවරු තිස් නමක් ගැන. ඒ රහත් තෙරණිවරුන්ට නිදහස් වෙන්න අවකාශ ලැබුනෙ පටාචාරා කියන උතුම් අර්හත් උත්තමාවියගේ ඇසුර ලැබුනු නිසා. ඒ පටාචාරා උත්තමාවියටත් නමස්කාර කරමින්, නිවනින් සැනසුනු ඒ තිස් නමක් වූ රහත් තෙරණිවරුන්ටත් නමස්කාර කරමින් අපිත් අධිෂ්ටාන කරමු අපිටත් ලැබුනු කල්‍යාණමිත්‍ර ඇසුරේ සුවසේම ගුණ පූර්ණය කරගෙන, සුවසේම පින් පුරාගෙන ගෞතම ශාසනය තුළ රහතුන් නිවී සැනසුනු අමා නිවනේ සැනසෙන්න අපි හැමදෙනාටත් වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් සක්දෙව්දුන් සතරවරම් දෙවිවරුන් ප්‍රධාන සදෙව් ලොව වාසී සියලු දෙවිවරුන් ශ්‍රීමත් සුමන සමන් දෙව්රජ ප්‍රධාන ලංකාභූමිය සුරකින පොළොව වාසී සියලුම දෙවිවරුන් ඔබ අප හැමදෙනාගේම ඉෂ්ටකාමී හිතකාමී සියලු දෙවිවරුන් අනුමෝදන්ව දෙවියෝ දිව්‍ය සැපයෙන් වැඩෙත්වා. ශ්‍රද්ධා සීලාදී ගුණධර්මයන්ගෙන්ද වැඩෙත්වා. ඒ හැම දෙවියෝ අපව ආරක්ෂා කරත්වා. සාදු සාදු සාදු!!! රැස් කල සියලු පුණ්‍ය ධර්මයන් අපගේ කල්‍යාණමිත්‍ර මගේ ගුරුදේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව නිරෝගීව දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. ගෞතම ශාසනය තුළ උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! අද දවසේ ධර්ම දානය සිදු කරපු පින්වතුන්ලාගේ ප්‍රධාන අරමුණ ලෙස සඳහන් කොට ඇති පරිදි මීට වර්ෂයකට පෙර මියපරලොව යන්නට යෙදුනා වූ පින්වත් එම්.පී. ගුණදාස පියාණන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ධර්ම දානය සිදු කරපු පින්වතුන්ලාගේ නමින් අනන්ත සසර පුරාවට මියපරලොව යන්නට යෙදුනු සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන්ව ඒ හැමදෙනාගේ පරලොව ජීවිත සැපයට පත්වෙත්වා. ඥාතීන් දුක්ඛිත සංසාර ගමනින් ඉතා ඉක්මණින් නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන්

ඥාතීන්ට පින් අනුමෝදනාව සිදු කරන්න. මේ ධර්ම දානමය පිනේ අනුහසින් තෙරුවන් සරණින් කොරෝනා වෛරසය හේතුවෙන් රෝගාතුරවී සිටින ලක්වැසි ලෝ වැසි හැමදෙනාට නිදුක් නිරෝගී සුවශාන්තිය ලැබේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. විශේෂයෙන් රට රකින සියලූම රණවිරුවන්ට ඊළඟට සෞඛ්‍ය අංශ වල ඒ සුවවිරුවන්ට මේ සියලු පින් අනුමෝදන් වෙලා නිදුක් නිරෝගී සුව සැලසේවා. මේ වර්තමානයේ උද්ගත වී තිබෙන ආපදා තත්වය මැඩපැවැත්වීම පිණිස සියලුදෙනාට යහපත සැලසීම පිණිස ඒ රණවිරුවන්ට, සුවවිරුවන්ට ඒ සඳහා කැපවෙන හැමදෙනාට ශක්තිය ධෛර්යය වාසනාව ලැබෙන්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. සුජීවත්ව සිටින ඩබ්ලිව්.ඒ. ධර්මාවතී මෑණියන්ට, අසනීප තත්වයෙන් පසුවන එම්.ජී. ධනපාල මහතාට, එම්.කේ් සිරිපාල මහතාට, එම්.කේ. රත්නපාල මහතාට, එම්.දයාවතී අත්තම්මාට, ධර්මදාන සාමාජික පින්වත් කේ.කේ. සුනිල් මහතාට එම්.කේ. පහන් මෙත්සර පුංචි පුතාට, දුලක්ෂා පුංචි දියණියට මේ සියලු පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා. ධර්ම දානය සිදු කරන නො.33, බෝගහවත්ත, ජඹුරේගොඩ, වැලිගම යන ලිපිනයේ පදිංචි පින්වත් එම්.කේ. නිලන්ත කුමාර මහත්මා ඇතුළු පවුලේ හැමදෙනාට පින් අනුමෝදන් වෙලා ඒ අයගේ ජීවිත වල රැකී රක්ෂා ආදී සියලු කටයුතු සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා. දිනෙන් දින දියුණුවට පත්වෙත්වා. සුජීවත්ව සිටින ඒ මෑණියන්ට නිදුක් නිරෝගී සුව ශාන්තියම සැලසේවා. විශේෂයෙන් අසනීප තත්වයෙන් පසුවන එම්.ජී. ධනපාල මහත්මාට ඉතා ඉක්මණින් නිදුක් නිරෝග සුව සැලසේවා. එම්.කේ. පහන් මෙත්සර පුංචි පුතාටත්, දුලක්ෂා පුංචි දියණියටත් අධ්‍යාපන කටයුතු ආදිය සුවසේ සාර්ථකව සිද්ධ කරගෙන කල්‍යාණ මිත්‍ර සත්පුරුෂයො ඇසුරු කරමින් ජීවිතේ සර්වප්‍රකාරයෙන්ම සාර්ථක කරගන්න වාසනාව ලැබෙත්වා. ධර්මදානය සිද්ධ කරපු සුපින්වතුන්ලා හැමදෙනාටත්, ශ්‍රද්ධා මාසික ධර්මදාන සාමාජික පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා කාර්යමණ්ඩලයේ හැමදෙනාටත් සුපින්වත් ඔබටත් මේ ලැබිච්චි දුර්ලභ මනුස්ස ජීවිතේ කල්‍යාණමිත්‍ර ඇසුර සත්පුරුෂ ඇසුර මුණගැහිච්ච අවස්ථාවේ තමන්ගේ ජීවිතේට සුවසේ පින් පුරාගන්න ලැබේවා. සුවසේම ගුණ දහම් දියුණු කරගන්න ලැබේවා, ධර්ම මාර්ගය වඩාගන්න ලැබේවා, ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්න හැමදෙනාට වාසනාව ලැබේවා. ඔබහැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=v0YOS892_pQ

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අපගේ මහා කාරුණික ශාස්තෘන් වහන්සේ වන ඒ භාග්‍යවත් අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ උතුම් බුද්ධ ශාසනයේ අමා නිවනින් සැනසිච්චි උත්තමාවියන් ගැන ඒ අමා නිවන් දුටු රහත් තෙරණිවරු මේ දේශනාමාලාවේදී අපි අහන්නෙ. බුදුරජාණන් වහන්සේ දේශනා කලා අප්පමත්තිකා ඒසා භික්ඛවෙ පරිහානි යදිදං ඥාති පරිහානි - මහණෙනි, මනුස්සයෙකුගේ ජීවිතයට ඥාති පරිහානියක්, ඥාති ව්‍යසනයක්, ඥාතීන් අහිමිවීමක් වෙන්න පුලුවන්. එකට ඉන්න ඥාති සමූහයා මොකක් හරි උපද්‍රවයකින් නැසිලා යනවා. මනුස්සයෙකුට එහෙම වෙන්න පුලුවන්. හැබැයි මහණෙනි, ඒක අප්පමත්තිකා - ඒක මහාලොකු පරිහානියක් නම් නොවෙයි. අප්පමත්තිකා ඒසා භික්ඛවෙ පරිහානි යදිදං භොග පරිහානි - මහණෙනි, මනුස්සයෙක් තමන්ගේ ජීවිතේ ගත කරද්දි භෝග සම්පත් ඔක්කොම විනාශ වෙලා භෝග සම්පත්තියෙන් නැත්තටම නැතිවෙන්නට පුලුවනි. හැබැයි ඒක එයාගේ ජීවිතේට මහාලොකු නැතිවීමක් නෙවෙයි. අප්පමත්තිකා ඒසා භික්ඛවෙ පරිහානි යදිදං යසො පරිහානි - මහණෙනි මේ සමාජයේ ජීවත් වෙනකොට මේ මනුස්සයාට යසස කීර්තිය ප්‍රශංසාව ගුණකතාව නැතිව යන්න පුලුවන්. මනුස්සයෙකුට අපකීර්තිය ගලාගෙන එන්න පුලුවන්. ඒ යසස කීර්තිය නැතිවීම කියලා කියන්නෙ හැබැයි ඒ මනුස්සයාට මහා පරිහානියක් නොවෙයි. එසේ නම් කුමක්ද මහා

පරිහානිය? ඒතං පතිකිට්ඨං භික්ඛවෙ පරිහානි නං යදිදං පඤ්ඤා පරිහානීති - මහණෙනි මේ පිරිහීම් අතරේ මහත්ම පරිහානිය, පිරිහීම් අතරේ වෙන්න පුළුවන් විශාලම පරිහානිය ප්‍රඥාවේ පරිහානියයි. නුවණ පිරිහීම. නුවණ පිරිහී ගියොත් එහෙම අනිත් මොන දේ තිබ්බත් වැඩක් නෑ. වඩාත් වටින්නේ ඥාණයයි. ඒක හොඳට තේරෙනවා පින්වත්නි අද මේ ඉගෙන ගන්න චරිතාපදානයෙන්. චන්දා රහත් තෙරණියගේ චරිතාපදානය අද දහම් කතාවෙදි අහන්නෙ. අද මේ ධර්ම දේශනාවට දායකත්වයන් එකතු කරනවා ඇල්වල උකුවෙල පදිංචි පින්වත් ශිරෝමී ජයරත්න, ක්‍රිශාන්ති ජයරත්න, ඉන්ද්‍රාමැණිකේ, හංසික තුංගරත්න, ප්‍රසාද් චතුරංග, ඉමායා අමායා යන දියණියන්, කොරියාවේ සේවයේ නියුතු මංජුල ගුණරත්න, දඹුල්ලේ පදිංචි අමාලී ගුණරත්න, ජනක හේරත්, අනූෂා, චමින්ද, මන්දාර පුතණුවන්, රෝහිණී, ලක්ෂිකා තිලකරත්න, ශෂින්ද්‍රා, ප්‍රභා කුමාරී දියණිය, තාරකා දියණිය, මුදිතා දියණිය, ගුණවතී මැණියන්, රංජනී කුමාරි, සුමේධා මහත්මිය, හේමමාලි මහත්මිය කියන මේ සැදැහැවත් පින්වතුන්ලා හැමදෙනාම එකතු වෙලා තමයි අද ධර්ම දානය සිද්ධ කරන්නෙ. ඒ පින්වතුන්ලාගේ ධර්මදානයෙනුයි අද ඔබට මේ ලස්සන චරිතාපදානය අහන්න ලැබෙන්නෙ, තමන්ගේ ජීවිතේට ගලපා ගන්න බොහෝ දේ තිබෙනවා. චන්දා තෙරණින් වහන්සේ කියලා කියන්නෙ පින්වතුනේ සංසාර ගමනේ ගොඩාක් පින් කරපු කෙනෙක්. පින් පුරාගෙන පැමිණිලා මේ ජීවිතේ ඈ උපන්නේ බුදුවරුන්ගේ ජාත භූමිය වූ දඹදිව. සම්මා සම්බුදුරජාණන් වහන්සේලා පහළ වෙන්නේම දඹදිව. දඹදිව තමයි සම්බුදුවරුන්ගේ පුණ්‍ය භූමිය. සම්බුදුරජාණන් වහන්සේලා සියලු බෝසත්වරු උපදින මහා පින්බිම ජම්බුද්වීපය. ඒ දඹදිව අට්ඨකතා තුලවත් සඳහනක් නෑ මේ උත්තමාවියගේ උපන් ගම කොහෙද කියලා. ඔය දඹදිව කොහේ හෝ ප්‍රදේශයක බමුණු ගමක තමයි ඈ උපන්නෙ. ඒ බමුණු ගමේ ඉපදිලා චන්දා කියලා නම ලැබුවා. තරුණ වියට පත්වුනා. තරුණ වයසේදී තව බ්‍රාහ්මණ තරුණයෙකුට ඇව විවාහ කරලා දුන්නා. විවාහයෙන් පස්සෙ ඇයට දරුවෝත් ලැබුනා. දැන් ඈ තමන්ගේ ස්වාමිපුරුෂයාත් එක්ක, තමන්ගේ දරුපැටව් එක්ක හරී සන්තෝෂයෙන් ජීවත් වෙනවා. තමන්ගේ මහළු වෙච්චි අම්මට තාත්තටත් බලාකියාගෙන ඈ ජීවිතේ ගත කරනවා. මෙහෙම ජීවිතේ ගත කරද්දි පින්වතුනේ මේ ජීවිත වල සාමය සැපය සැනසිල්ල නසන එක එක උපද්‍රව නැද්ද. එක එක ඒවා තියෙනවා. මිනිස්සුන්ගේ ජීවිත වල සැනසිල්ල නැසී යන්නෙ සමහර වෙලාවට ස්වභාවික උපද්‍රවයකින්. මේ හොඳට ඉන්නවා. මේන්න ඉන්න

ප්‍රදේශය නාය යනවා. මේ හොඳට ඉන්නවා. මෙන්න ඉන්න ප්‍රදේශයට ගංවතුර ගලනවා. එක්කො සුනාමි ව්‍යසන එනවා. මේ වගේ විනාශකාරී දේවල් නිසා මිනිස්සුන්ගේ සැනසීම නැසී යන්නැද්ද. සැනසීම නැසී යනවා. එකට ඉන්න ඥාතියො අහිමිවෙලා යනවා. ආදරය කරන අය වෙන් වෙලා යනවා. ඒ එක පැත්තක්. ඊළඟට ඇතැමුන්ට පුද්ගලයන්ගේ නොයෙක් පුද්ගලයන්ගේ දෝෂ වලට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. අන්තවාදියො බිහිවෙනවා, ත්‍රස්තවාදියො බිහි වෙනවා. ඊළඟට හොරු මංකොල්ලකාරයො මිනීමරුවො බිහි වෙනවා. ඒ ගොල්ලන්ගේ ප්‍රශ්න. ඒ තව පැත්තක්. ඊළඟට ගත්තහම ජීවිතේ ආයෙ ප්‍රශ්න කඩාගෙන වැටෙනවා අමනුස්සයන්ගේ ඒවා. අමනුස්ස දෝෂයක් එනවා මොකාක්හරි අමනුස්ස දෝෂයක් නිසා එකදිගට ප්‍රශ්න ගලාගෙන එනවා. මිනිස්සුන්ගේ ජීවිත වල තියෙන සැනසිල්ල නැසී යනවා. ඊළඟ එක, වසංගත ප්‍රශ්න. දැන් මේ කාලෙත් තියෙන්නෙ අපිට. වසංගත ප්‍රශ්නය. සැනසිල්ල, සුවය, පහසුව නැසී යනවා. ඉතින් මේ චන්දා කියන මේ තරුණිය විවාහ දිවියට පත්වෙලා සිඟිති දරු පැටව් ඉන්න වයසේදී අනේ මේ ගම්මානයට ආවානෙ ඒ ව්‍යසනය. අහිවාතක කියලා බොහෝම දරුණු වසංගතයක් ආවා. මේ වසංගතයෙන් ඒ ප්‍රදේශයේ මිනිස්සු වේගයෙන් මැරුණා. දැන් ඇතැම් වසංගත පින්වතුනේ ඒ වසංගතය පැමිණෙන්නේ බොහොම මාරාන්තික විදියට. දැන් අපි ගත්තොත් මේ කොරෝනා වසංගත තත්වය වුනත් බොහෝ දුරකට මාරාන්තික භයානක එකක් බවට පත්වුනා. නමුත් ඒ වසංගතය වැළදිලා සුවපත් වෙච්චි කොට්ඨාශයකුත් හිටියා. නමුත් සමහර වසංගත එනවා, ඒ වසංගත පැමිණියාම ආයෙ සුවපත් වීමක් නෑ, බෝවුනා කියන්නෙ බෝවෙලා පොඩි වෙලාවකින් මැරිලා යනවා. එහෙම වසංගත තියෙනවානෙ. අන්න එහෙම වසංගතයක් මේ අහිවාතකය. අහිවාතක රෝගයට කෙනෙක් හසුවෙනවාද, හසුවෙන හසුවෙන කෙනා මැරෙනවා. ඉතින් බොහෝම භයානක වසංගතයකට මැදි වෙලා පුලුපුලුවන් විදියට තමන්ගේ ජීවිතය බේරගන්න මිනිස්සු නොයෙක් නොයෙක් දේ කලා. මෑත් මැගේ පවුලේ හැමදෙනාත් ඕකට කොටුවුනා. කොටුවෙලා ඇස් පනාපිට බලාගෙන ඉද්දි ඔන්න ආදරය කරපු තාත්තා මැරෙනවා. තාත්තා මියගියා කියන එකෙන් හදවත පිච්චීගෙන එනකොට ඔන්න අම්මා මැරෙනවා. අම්මා මැරිච්ච දුක උහුලාගෙන දරාගෙන ඉන්න මහන්සි ගන්නකොට අනේ මෙන්න ස්වාමිපුරුෂයා නැතිවුනා. ඒ දුක යම් පමණක් උහුලාගෙන ඉන්න මහන්සි ගන්නකොට මෙන්න දරුපැටව් නැතිවෙනවා. ඉතින් මෙහෙම එකින් එක එකින්

එක අහිමි වීම වුනා. ඥාතීන් අහිමි වෙලා ගියා. තමන්ට කියලා යමෙක් ඉන්නවාද ඔක්කොමලා නැතිවුනා. තමන්ගේ හිතවතුන්, තමන්ගේ ඥාතීන්, තමන්ගේ මිත්‍රයො, තමන් ආදරේ කරපු අය මේ වසංගතය විසින් බිළිගත්තා. ඇය තනිවුනා. ඊටපස්සෙ ඇය හිටපු ඒ ගම් ප්‍රදේශය ඉන්න හිටින්න බෑ, මොකද මේ වසංගතය බොහොම දරුණුයි, ඒ වසංගතය වැළඳුනාට පස්සෙ මිනිස්සු පුරුදු වුනේ බේරෙන්න මිනිස්සු පුරුදු වුනේ ගෙදර බිත්තියක් කඩාගෙන යනවා. ඒ බිත්තිය කඩලා හැරෙන්නේ නැතිව කෙලින්ම යනවා. ඉතින් මැය බිත්තිය කඩාගෙන, දැන් ඔක්කොම අහිමි වුනා. අහිමි වෙලා ඒ අඬ අඬා බිත්තියක් කඩාගෙන නික්මුනා, වසංගතයෙන් පණ බේරගන්න. ඇය ඉතින් මේ අවසාන ජීවිතය නිසා වෙන්න ඇති, වසංගතයට බැරිවුනා ඇයව බිලිගන්න. ඇය බේරුණා. හැබැයි බේරෙන්නෙ ඥාතීන් පිරිහිලා, බේරෙන්නෙ බෝග සම්පත්තියෙන් පිරිහිලා. ඇය බේරුණේ කාත් කවුරුවත් නැති හිඟන්නියක් විදියට. දැන් ඉතින් නොයෙක් ප්‍රදේශ වලට ගිහිල්ලා අනිත් මිනිස්සුන්ට අතපාගෙන ලැබෙන දෙයක් කාලා ඔය අගුපිලක නිදාගෙන ඔහොම ජීවිතේ ගත කරනවා. බලන්න මේ ජීවිතයක් පරිවර්තනය වෙන හැටි නේද. ජීවිතයට නොයෙක් නොයෙක් ව්‍යසන එනකොට උපද්‍රව එනකොට පින්වතුනේ, මේ අපි ජීවත් වෙද්දි කවදාවත් අපිට හිතෙන්නෙ නෑ අපිට එහෙම වෙයි කියලා. නමුත් අනපේක්ෂිත විදියට ජීවිතයට කරදර කඩාපාත්වෙද්දි මුළු ජීවිත කතන්දරයම වෙනස් වෙනවා. දැන් අපි ඉගෙන ගත්තානෙ පටාචාරා අර්හත් උත්තමාවියගේ චරිතාපදානය ආදිය. මුළු ජීවිතේම එක සැණෙකින් වෙනස් වෙලා යනවා. එහෙම වෙනස් වෙලා යන ලෝකෙක තමයි අපි මේ වෙනස් වෙලා යන දේවල්වලින් සැප හොයන්න මහන්සි ගන්නෙ. මේ වෙනස් වෙලා යන අහිමි වෙලා යන දේවල් වලින් අපි සැපක් හොයන්න මහන්සි ගන්නවා පින්වතුනේ. මේ ඔක්කොම සැණෙකින් නැසී යන්න පුලුවන් ලෝකෙක. ඉතින් මේ චන්දා දැන් බොහෝම අසරණ භාවයට පත්වෙලා. පාරෙ වැරහැල්ලක් ඇඳගෙන හිඟන්නියක් විදියට කාගෙන් හරි බත් චුට්ටක් ඉල්ලාගෙන යනවා. මෙහෙම යනකොට යනකොට ඇයව අහම්බෙකට වගේ එවුනා භික්ෂුණී ආරාමෙකට. ඒ භික්ෂුණී ආරාමයේ වැඩ හිටියා මේ බුද්ධ ශාසනයේ උතුම් ශ්‍රාවිකාවක්. අපගේ පටාචාරා අර්හත් තෙරණින් වහන්සේ. මේ සිදුවීම සිද්ධ වෙනකොට පටාචාරා උත්තමාවිය අර්හත්වයට පත්වෙලාද නැති ද කියලා අටුවා පොත් වහන්සේගෙන් අපිට හොයාගන්න බෑ. කොහාම නමුත් පටාචාරා භික්ෂුණිය තමයි ඒ භික්ෂුණී ආරාමයේ වැඩමහල්ම භික්ෂුණිය විදියට හිටියේ. මේ චන්දාව

හිඟාකාගෙන ඇවිල්ලා භික්ෂුණී ආරාමයට ආවට පස්සෙ කිසිම තැනකින් නොලැබිච්චි විදියේ කරුණාවක් මේ භික්ෂුණීන් වහන්සේලාගෙන් ඇයට ලැබෙනවා. අනිත් තැන් වලට කෑමක් ඉල්ලගෙන ගියාම ඒ කෑම කන්න කලින් අපහාස නින්දා ඔක්කොම කරලා සමහරු කාරලා කෙළ ගහලා, ඉතින් මෙහෙම දුකට පත්වෙන්න සිද්ධ වුනා. හැබැයි භික්ෂුනී ආරාමෙට ආවට පස්සෙ භික්ෂුණීන් වහන්සේලා බොහෝම කරුනාවෙන් ආ මෑණියනි මෙහෙට එන්න කියලා කතා කරලා බොහෝම පිළිවෙලකට බත් එකක් බෙදලා මේ චන්දා කියන අසරණ වෙච්චි කාන්තාවට රහට කන්න ටිකක් දුන්නා. මේක ලැබුනට පස්සෙ ඇයට හරී සතුටක් ඇතිවුනා. ඇයට කාරුණික පිරිසකගේ ඇසුරක් ලැබුනා. ඇයට ඊටපස්සෙ පහසුවෙන් බඩ පුරවගෙන ඉන්න පිළිවෙලක් ලැබුනා. ඔක්කොම අහිමි වෙච්චි ඇය වෙන දෙයක් හොයන් නෑනෙ. ඔක්කොම අහිමි වෙලා. ආයෙ ඇයට ඊට වඩා වටින දෙයක් නෑ. පොඩ්ඩක් සැනසිල්ලෙ ටිකක් කාලා බඩ පුරවාගෙන මනුස්සයෙක්ගෙන් කරුණාවන්ත වචනයක් වත් අහලා ඉන්න තියෙනවානම් ඒක විතරයි ඇය හෙව්වෙ. ඇගේ ලෝකෙම කඩාවැටිලා තියෙද්දි ඒ ටික හොයාගෙන යනකොට ඒ ටික ලැබෙන තැනක් ඇයට හම්බුනා. භික්ෂුණී ආරාමය. ඇය පටාචාරා භික්ෂුණිය ළඟට ගිහිල්ලා ඒ භික්ෂුණියගෙන් අවසරයක් පතනවා. අනේ කාරුණික තෙරණින් වහන්ස, මං ආසයි මේ ආරාමයට වෙලා මේ කාරුණික භික්ෂුණින් වහන්සේලාට ඇප උපස්ථාන කරගෙන මෙහේම වාසය කරන්න. මට ඒ වෙනුවෙන් බත් චුට්ටක් ලැබුනා නම් ඇති. මට ඉන්න අවසර දෙන්න කිව්වා. ඉතින් පටාචාරා තෙරණින් වහන්සේ අවසරය දුන්නා. දැන් මේ චන්දාව භික්ෂුණී ආරාමයක උපස්ථාන කර කර ඉන්න කාන්තාවක්. ඒ උපස්ථාන කර කර ඉද්දි ඇයට ඇහෙනවා බුදුරජාණන් වහන්සේගේ නිර්මල පාරිශුද්ධ සද්ධර්මය ඇයට ඇහෙනවා. බණ පද අහන්න ලැබෙනවා. මේ බණ පද අහන්න ලැබෙද්දී, ඒ බණ පදය අහනකොට අහනකොට ඇය තුළ යමක් වැඩුනා. මොකක්ද ඒ වැඩිච්ච දේ, ඒ වැඩිච්ච දේට කියනවා ප්‍රඥාව. නුවණ වැඩුනා. බුදුරජාණන් වහන්සේ දේශනා කලා අප්පමත්තිකා ඒසා භික්ඛවෙ වුද්ධි - මහණෙනි මේ ලෝකයේ වැඩීම් තියෙනවා, ඒ වැඩීම් අතරේ එක වැඩීමක් තමයි, යදිදං ඥාති වුද්ධි - ඥාතීන් වැඩෙනවා, ඥාතීන් දියුණු වෙනවා, ඥාතීන් සැපයට පත්වෙනවා ජේනවා, ඥාතීන්ගේ දියුණුවක් කියා යමක් මේ ලෝකයේ ඇද්ද මහණෙනි එය වනාහි අල්ප වූ දියුණුවකි, මහ එකක් නෙවෙයි. අප්පමත්තිකා ඒසා භික්ඛවෙ වුද්ධි යදිදං යස වුද්ධි- මහණෙනි මනුස්සයෙකුට කීර්ති ප්‍රශංසා පිළිගැනීම් වැඩෙන්න පුලුවන්.

මනුස්ස සමාජයේ ජීවත් වෙනකොට ඒ මිනිස්සුන්ගේ පිළිගැනීම් ලැබෙනවා. ඒ මිනිස්සුන්ගෙන් කිත් පැසසුම් ලැබෙනවා, එහෙම අවස්ථා එනවා. මහණෙනි, ඒකත් වැඩීමක්. හැබැයි ඒ වැඩීම මහා වැඩීමක් නම් නෙවෙයි. බුද්ධ ශාසනය තුළ නුවණැත්තෙක් ප්‍රශංසා කරන වැඩීමක් නෙවෙයි. යදිදං භෝග වුද්ධි - මනුස්සයෙකුට හොඳට භෝග සම්පත් වැඩුනොත් එහෙම ඇතැම් වෙලාවට ලොතරැයි ඇදෙනවා, ඇතැම් වෙලාවට කරන බිස්නස් හරියනවා, ඔන්න හොඳට භෝග සම්පත් ලැබෙනවා. භෝග සම්පත් වැඩෙනවා කියලා දෙයක් ලෝකෙ තියෙනවා, හැබැයි ඒක මහා ලොකු වැඩීමක් නෙවෙයි. එහෙනම් මොකක්ද මහා ලොකු වැඩීම? විසාලම වැඩීම කිව්වා බුදුරජාණන් වහන්සේ ඒක දග්ගං භික්ඛවෙ වුද්ධි නං යදිදං පඤ්ඤා වුද්ධි - මහණෙනි වැඩීම් අතර අග්‍රම වැඩීම බවට පත්වෙන්නෙ කෙනෙක් ප්‍රඥාවෙන් වැඩෙනවා නම්. ඒ ප්‍රඥාවෙන් වැඩීම තමයි වඩාත් වටින්නෙ. හැබැයි පින්වතුනි ප්‍රඥාවෙන් වැඩෙන්න නම් කෙනෙක් ප්‍රඥාවෙන් වැඩෙන තැනැත්තාට පින් බලයක් තියෙන්න ඕන. පිනක් තියෙන කෙනෙකුට තමයි සත්පුරුෂ ඇසුරක් ලැබුනාට පස්සෙ, කල්‍යාණමිත්‍රයෙක්ගේ ඇසුරක් ලැබුනාට පස්සෙ ගුණවන්තයෙක්ගේ ඇසුරක් ලැබුනාට පස්සෙ දියුණුවක් කරා යන්න පුලුවන් වෙන්නෙ එයා ගාව පින තිබුනොත්. පින තිබුනු කෙනාට තමයි ප්‍රඥාවට අවකාශ තියෙන්නෙ. පින නැති කෙනාගේ මේ ප්‍රඥාවට තියෙන අවකාශ නැතිව යනවා දැන් මේක ගැන හොඳට තේරෙනවා බුදුරජාණන් වහන්සේ ධම්මපදයේදී වදාළා ගාථා දෙකක්. යාව ජීවං පිචේ බාලො පණ්ඩිතං පයුරුපාසති - මුළු ජීවිත කාලෙම බාල තැනැත්තෙක් නුවණ උපදවා ගැනීමේ වාසනාව නැති තැනැත්තෙක් නුවණැත්තෙක්ව ඇසුරු කරගෙන ඉන්නවා ජීවිත කාලෙම. නසො ධම්මං විජානාති ගබ්බීසූප රසො යතා - එයාට හැබැයි නුවණැත්තාගේ නුවණ උපදවන සද්ධර්මය අල්ලන්නට ලැබෙන් නෑ. හරියට හොද්දක බහාලූ හැන්දක් බඳුය. හැන්ද දාලා තියෙනවා හොද්දෙ. හොද්ද කාල් ගාන්නෙත් හැන්දෙන්. හැබැයි හැන්ද හොද්දෙ රස දන්නේ නැත. හොද්දේ රස නොදන්නා හැන්දක් වගේ තමයි පින නැති නුවණ නැති තැනැත්තා. හැබැයි භාග්‍යවතුන් වහන්සේ වදාලා මෙහොත්තං පිචේ විඤ්ඤු පණ්ඩිතං පයුරුපාසති - පින් තියෙන නුවණැත්තෙක් එක මොහොතක් වෙන්න පුලුවන් සත්පුරුෂ පණ්ඩිතයෙක් ඇසුරු කරන්නෙ, කිප්පං ධම්මං විජානාති ජිව්හා සූපරසො යතා - ඒ ඇසුරු කරන සුළු මොහොතින් ඒ ඇසුරු කරන පොඩි වෙලාවෙන් එයා නුවණැත්තන්ගේ ධර්මය අල්ලනවා. ඒක හරියට දිවක හොද්ද චුට්ටක් ගෑවුනොත් එක මොහොතකට දිවක හොද්ද ගෑවුනොත්

එහෙම ගැව්ච්චි ගමන් හොද්දේ රහ අඳුරගන්න දිවට පුලුවන්. අන්න ඒ වගේ. අන්න ඒ වගේ භාග්‍යවතුන් වහන්සේ වදාළේ පින් තියෙන නුවණැත්තො. එහෙම පින් තියෙන නුවණැත්තො පින්වත්නි, ධර්මය අල්ලපු හැටි. ප්‍රඥාවන්ත කෙනා ධර්මය අල්ලපු හැටි, ප්‍රඥාවන්ත කෙනා සත්පුරුෂයා අඳුරගත්ත හැටි, ඒක හරිම පුදුම සහගතයි. ඒක ඇත්තෙන්ම විස්මයක්. මේ නුවණ කියන එක, මේ ප්‍රඥාව කියන එක පිනත් එක්ක සම්බන්ධයි. උපතින්ම අරන් එන්න ඕන නුවණක්, ඥාණයක් යම් පමණක් තියෙනවා. ඒක අරගෙන ආවෙ නැත්නම් නුවණ වඩන්න බෑ. උපතින්ම චුට්ටක් තියෙන්නම ඕන. ඒ තියෙන චුට්ට තමයි වඩන්න තියෙන්නෙ. බොහෝ දෙනෙක් ගත්තොත් එහෙම ලෝකෙ උපතින්ම චුට්ටක්වත් ප්‍රඥාව නෑ. ජීවිතේ දකින්න උවමනා කරන නුවණ චුට්ටක්වත් නෑ. සත්පුරුෂයෙක් අඳුනගන්න උවමනා කරන නුවණ චුට්ටක් වත් නෑ. ඒ නුවණ තියෙ කෙනා සැනෙකින් සත්පුරුෂයා අල්ලන හැටි විස්මයජනකයි. ඒ කාලෙ හිටියා බුදුරජාණන් වහන්සේ වැඩ හිටිය කාලෙ එහෙම නුවණ තිබුනු තරුණයො තිස් දෙනෙක්. ඒ තරුණයො තිස් දෙනා තක්ෂිලා ගිහිල්ලා තක්ෂිලාවෙ හොඳට ඉගෙන ගත්තා. ඉගෙන ගෙන ඉවරවෙද්දි මේ කොල්ලන්ට අවුරුදු 16 ක්. අවුරුදු 16 වෙනකොට ඒ කාලෙ අධ්‍යාපන කටයුතු ඔක්කොම අහවරයි. මේ රජ කුමාරවරු. ඉගෙනීම් කටයුතු අවසන් වුනාට පස්සෙ තක්ෂසිලාවේ ගුරුවරයා කිව්වා පුත්‍රයෙනි, දැන් නුඹලාට ශිල්පය දීලා අවසන්. දැන් ඔබලාට ගම් රටවල් බලා යන්න පුලුවනි. එහෙම කිව්වට පස්සෙ මේ එකට හිටපු යාළුවො තිස් දෙනාට දුක හිතුනා. සාමාන්‍යයෙන් අපි වුනත් ස්කෝලෙ ගිහිල්ලා ගිහිල්ලා පාසල් ගමන අවසන් කරන දවසේ යාළුවො මිත්‍රයො ඔක්කොම වෙන් වෙන දවසේ හදවත් වලට වේදනාවක් එනවානෙ. ඊළඟට අධ්‍යාපනය දීපු ගුරු මෑණිවරු පියවරු වෙන් වෙනකොට හිතට වේදනාවක් එනවා. අන්න ඒ වගේ මේ තරුණයොන්ට හරි සාංකාවයි. හරි දුකක් ඇතිවුනා. ඒ දුක වැඩිවෙන්න තව හේතුවකුත් තිබුනා. ඒ තමයි තක්ෂසිලාවේ ඉගෙන ගන්න කාල වකවානුවේදීම මේ ගොල්ලො ගැහැණු ළමයින්ව යාළු කරගත්තා තක්ෂසිලාවේම හිටපු. එතකොට මේ ළමයි හැමෝටම හිටියා පෙම්වතියො. දැන් ගම් රටවල් බලා ගියාට පස්සෙ අර පෙම්වතියන්ව නිතර හම්බෙන්න බැරිව යනවා. එහෙම අමතර දුකකුත් තිබ්බා. ඊටපස්සෙ මේ යාළුවො ටික කතා වුනා එහෙම නම් ඉතින් අපි දැන් ගුරුතුමා අපිට යන්න කියපු නිසා අපි යන්නත් එපැයි. අපි යන්න කලින් විනෝද චාරිකාවක් යොදාගමු. දැන් ඔන්න කට්ටිය කතා කරගෙන තමන්ගේ පෙම්වතියනුත් එක්ක විනෝද චාරිකාවක් යන්නයි

සූදානම. මේ විනෝද චාරිකාව යන්න සැරසෙනකොට එක යාළුවෙක් කිව්වා ඔ්ගොල්ලො ඉතින් විනෝද චාරිකාව යන්න, ගිහිල්ලා විනෝද වෙලා එන්න, මං එන්නෑ කිව්වා. එතකොට අනිත් යාළුවො විසි නව දෙනා අහනවා ඇයි මිත්‍රය, ඔයා විතරක් මේ අවසාන විනෝද චාරිකාවට එන්නෙ නැත්තෙ. නෑ ඉතින් ඔහේලා ඔක්කොටම පෙම්වතියො ඉන්නවානෙ, පෙම්වතියොත් එක්ක ගිහිල්ලා සතුටු වෙන්නනෙ යන්නෙ. මට ඉතින් එහෙම කෙනෙක් නැනෙ. මං ඔය ගමන එන එක තේරුමක් නෑ. එතකොට අර විසිනවයක් වූ මිත්‍රයො කියනවා, නෑ නෑ මිත්‍රය අපි ඔහේව අතෑරියෙ නෑ, අපි ඔහේ වෙනුවෙන් ස්ත්‍රියාවක්ව කුලියට අරගත්තා. ඒ කුලියට ගත්ත කාන්තාව මේ ගමනේදී ඔහේ ළඟින් ඉදී කිව්වා. ඔන්න දැන් ගමන යොදාගත්තා. ඔන්න දැන් තිස්දෙනාම තමන්ගේ පෙම්වතියො, ඊළඟට අර කුලියට ගත්තු කෙනා මේ ඔක්කොමත් එක්ක හැට දෙනෙක් මහා ඝනවනාන්තරයෙ ඒ වනයේ සිරි නරඹ නරඹා විනෝද චාරිකාවක්. මේ විනෝද චාරිකාවේ යන අතරේ මේගොල්ලන්ට හම්බුනා සිහිල් දිය තියෙන හොඳට නාගන්න පුලුවන් තැනක්. එතනදි කට්ටිය කතාවුනා අපි දැන් එහෙනම් මේ වතුරට බැහැලා හොඳට නාගමු. වතුරට බහින්න ලෑස්තිවෙද්දි අර කුමාරිකාවො තමන්ගේ පෙම්වතුන්ව සතුටු කරන්නත් එක්ක තිබ්බ වටිනාපහේ ආභරණ ඔක්කොම පැළඳගෙන තමයි ඇවිල්ලා තියෙන්නෙ, ඉතින් මේ ආභරණ පරිස්සමට ගැලෙව්වා. ගලවලා ගලවලා රෙදි කෑලිවලින් පොට්ටනි පොට්ටනි බැන්දා. දැන් වතුරේ විනෝද වෙවී විනෝද වෙවී ඉන්නකොට අර කුලියට අරගෙන ආව කෙනාට කපටි හිතක් උපන්නා. ඒ කෙනා කල්පනා කලා ලස්සන ලස්සන ආභරණ බොහොමයක් තිබේ, මේ ආභරණ පොට්ටනියක් දෙකක් උස්සා ගත්තොත් මට ඒකෙන් සැපවත් විය හැක කියලා. ඉතින් නනා ඉන්න ගමන් අර කුමාරවරුන්ට කිව්වා අනේ මගේ බඬේ අමාරුවක් වගේ, මම පොඩ්ඩක් කැලෑ රොද ඇතුලට ගිහින් එන්නම්. ඈ වතුරෙන් ගොඩට ආවා. වතුරෙන් ගොඩට ආව ගමන් අනෙක් කට්ටිය වතුරෙ, ගත්තා අතනින් ආභරණ පොට්ටනි දෙකක් තුනක්, එක පිම්මෙ දිව්වා. ඒ දුවනකොට කුමාරවරු බොහොම කලබල වුනා. මේ අවුරුදු දහසයේ තරුණයො බොහොම කේන්ති අරගත්තා. කිපිලා වතුරෙන් ගොඩට ඇවිල්ලා අර කුමාරිකාවන්ට කිව්වා ඕගොල්ලො මෙතනම වාඩිවෙලා ඉන්න, අපි අද මේ කැලේ පීරලා හරි මේකිව අල්ලගන්නවා. දැන් කුමාරවරු තිස්දෙනා බොහොම කිපුණු සිතින් කඩු අසිපත් අරගෙන මේ කැලයේ අර කාන්තාව සොයනවා. ඒ කාන්තාව හොයාගෙන යනකොට මේ කුමාරවරුන්ට එක රුක් සෙවණක

දකින්න ලැබෙනවා තුන්ලෝකාග්‍ර බුදුරජාණන් වහන්සේ, රන් පිළිමයක් තැබුවා වගේ රුක් සෙවණේ වැඩ ඉන්නවා. ඔය කාලෙ පින්වතුනේ බුදුරජාණන් වහන්සේ සම්බුද්ධත්වයට පත්වෙච්චි මුල්ම අවධිය. බුදුරජාණන් වහන්සේ පළවෙනි රහත් හැටනමට දහම් චාරිකාව අනුදැන වදාරලා ඔය උරුවේලාවට වඩින කාලෙනෙ. ඒ උරුවේලාවට වඩින අතරතුරේ තමයි මේ තරුණයො හිටපු වනාන්තරයට බුදුරජාණන් වහන්සේ වැඩියේ. ඒ වැඩම කරලා භාග්‍යවතුන් වහන්සේ මේ රුක් සෙවණේ වැඩ ඉන්නවා. ඇයි බුදුරජාණන් වහන්සේ මේ රුක් සෙවණට වැඩියේ. මේ කුමාරවරුන්ට පින තිබේ. මේ කුමාරවරුන්ට පින තියෙනවා. මේ කඩු අරගෙන කාන්තාවක්ව ඝාතනය කරන්න කියලා එන අයට අභ්‍යන්තරයේ පින තියෙනවා. ඒ පින තියෙන නිසා මේ පුද්ගලයන්ට සත්පුරුෂයො අඳුරගන්න ප්‍රඥාව තියෙනවා. බුදුරජාණන් වහන්සේ ඒ පින් තියෙන ප්‍රඥාවන්තයො වෙනුවෙන් මේ වනයට වැඩම කලා. දැන් භාග්‍යවතුන් වහන්සේ රුක් සෙවණේ වැඩ ඉන්නවා. මේ කුමාරවරු දන්නෙ නැහැ මේ බුදුරජාණන් වහන්සේ කියලා. නමුත් දැක්ක ගමන් ඒ බුදුරජාණන් වහන්සේගේ ශාන්ත රූපශ්‍රීයට හිත පැහැදුනා. හිත පැහැදිලා මේ කුමාරවරු බුදුරජාණන් වහන්සේගෙන් අහනවා, පින්වත් ශ්‍රමණය ඔබ දැක්කේ නැද්ද මේ හරියෙන් කෙල්ලක් එහෙම දුවගෙන යනවා. එතකොට භාග්‍යවතුන් වහන්සේ අර කුමාරවරුන්ගෙන් අහනවා තරුණයිනි, ඔබලා කෙල්ලක් ගැන හොයන එකද වඩාත් වටින දේ, තම තමන් ගැන හොයන එකද? බලන්න භාග්‍යවතුන් වහන්සේ අහපු ප්‍රශ්නෙ. මේ දන්න කියන පිරිසක් නෙවෙයි. මුලින්ම හම්බවෙච්චි පිරිස. මුලින්ම හම්බෙලා අඩුම ගානෙ ඒ තරුණයො බුදුරජාණන් වහන්සේගෙන් ඇහුවෙ නෑ ඔබවහන්සේ කවුද කියලාවත්. ඒ ගොල්ලන්ට එහෙම එකක් උවමනාවක් තිබ්බෙ නෑ. ඒ ගොල්ලො ඇහුවෙ ශ්‍රමණයන් වහන්ස, මේ පැත්තෙන් කෙල්ලෙක් එහෙම දුවගෙන යනවා දැක්කද. බුදුරජාණන් වහන්සේ පිළිතුරු දෙනවා, තරුණයෙනි, කෙල්ලෙක් ගැන හොයන එකද වඩාත් වටින්නෙ, තම තමා ගැන හොයාගන්න එකද. මේ ප්‍රකාශය කලා විතරයි මේ ගොල්ලො මේක බරට හිතුවානෙ. මේ තිස්දෙනාම මේක බරට හිතුවා. කලබල වුන් නෑ, මේ මොකක්ද මේ කිව්ව අපබ්‍රංශය කියලා හිතුවෙ නෑ. ඒ ගොල්ලො තිස් දෙනා මුහුණට මුහුණ බලාගත්තා. බුදුරජාණන් වහන්සේ දෙසට හැරිලා ආයුධ ටික පැත්තකට දාලා කියනවා, ශ්‍රමණයන් වහන්ස, ඇත්තෙන්ම කෙල්ලෙක් ගැන හොයනවාට වඩා වටින්නෙ තම තමන් ගැන හොයාගැනීමයි. එහෙනම් තරුණයිනි වාඩිවෙන්න කිව්වා. බුදුරජාණන්

වහන්සේ සමීපයේ ඒ තරුණයො වාඩිවුනා, බුදුරජාණන් වහන්සේ දහම් දෙසුවා. මාර්ගඵල අවබෝධ කලා. මොහොත්තං පිචේ විඤ්ඤෑ - මොහොතක් වෙන්න පුලුවන්, නුවණැත්තෙක්, පණ්ඩිතං පයුරුපාසති - නුවණැති උත්තමයෙකු ඇසුරු කරන්නෙ. කිප්පං ධම්මං විජානාති - ඒ එක මොහොතේදී, ඒ සුලු මොහොතේදී ඔහු ධර්මය අවබෝධ කරනවා හරියට ජිව්හා සූපරසො යථා - හොදි චුට්ටක් තැවරිච්චි ගමන් රහ හඳුනාගන්න දිවක් වගේ. දැන් අපි කතා කර කර හිටියේ චන්දා කියන මේ තෙරණින් වහන්සේගේ චරිතාපදානයනෙ. ඔන්න භික්ෂුණීන් වහන්සේලා වාසය කරපු ආරාමෙට පැමිණිලා ඇය උපස්ථායිකාව විදියට එතන ඉන්නවා. එහෙම ඉන්නකොට ඇයට බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය අහන්න ලැබෙනවා. ඒ මිහිරි බණ පද ඇහෙද්දි ඇයට ඒ ධර්මය ගැන ආසාව උපන්නා. ඇයි හේතුව මොකක්ද, මේ හැන්දක් නෙවෙයි. මේ දිවක්. මේ චන්දා කියලා කියන්නෙ හැන්දක් වගේ කෙනෙක් නෙවෙයි. දිවක් වගේ කෙනෙක්. දැන් එයාට ආසයි මේ ධර්මය අවබෝධ කරන්න. ඇයටත් ආසයි මේ ධර්මයේ පහස ලබන්න. ඇය පටාචාරා භික්ෂුණීන් වහන්සේ ළඟට ගිහින් කියනවා, අනේ පින්වත් භික්ෂුණීන් වහන්ස, ඔබවහන්සේලා දේශනා කරන ඒ ලස්සන බණ පද මාත් ආසාවෙන් අහගෙන හිටියා, ඒ බණ පද ඇහෙද්දි ඇහෙද්දි මටත් මේ ජීවිතේ ගැන තේරුනා. මාත් කැමැතියි ඔබවහන්සේලා වගේම මේ බුද්ධ ශාසනය තුළ සිවුරු දරාගෙන බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය අවබෝධ කරන්න මාත් කැමැතියි කිව්වා. අනේ මාත් පැවිදි කරගන්නා සේක්වා. ආන්න එහෙම පැවිද්ද ඉල්ලුවා. දැන් බලන්න පින්වතුනේ මේ බුද්ධ ශාසනයක තියෙන අසිරිය. මනුස්සයෙක් මේ කෑම ටිකක් පතාගෙන ඇවිල්ලා තමයි එතන නැවතුනේ. කන්න නැවතුනේ. බඩ පුරවගන්න නැවතුනේ. බඩ පුරවගන්න නැවතිච්චි කෙනාට අමෘතය ලැබුනා බුද්ධ ශාසනය. ඇතැම් වෙලාවට භාග්‍යවතුන් වහන්සේ ළඟට අන්‍ය තීර්ථක පරිබ්‍රාජකවරු එහෙම ආවා බුදුරජාණන් වහන්සේට බැනලා යන්න. එන්නෙ බනින්න. මං මෙහෙම කියන්නෙ කියලා හිතාගෙන එනවා. ඒ ආවට පස්සෙ භාග්‍යවතුන් වහන්සේ සමීපයේදී ඒ අයට අමෘතය ලැබෙනවා බුද්ධ ශාසනයේ. ඇතැම්හු මේ බුද්ධ ශාසනයට ඇතුලත් වුනා ධර්මය හොරකම් කරගෙන යන්න. අන්‍ය තීර්ථක පරිබ්‍රාජකවරු මේ ධර්මය කටපාඩම් කරගෙන ධර්මය හොරකම් කරගෙන ගිහිල්ලා තමන්ගේ දර්ශනය, තමන්ගේ ආගම බබුළුවන්න කියලා හිතාගෙන ධර්මය හොරකම් කරන්න මහණ වුනා. ධර්මය හොරකම් කරගෙන යන්නම් කියලා මහණ වෙන්නෙ. ඒ අයට අමෘතය ලැබෙනවා.

සැනසෙනවා, බුද්ධ ශාසනයේ. දාහක් ගිනි තියාගෙන පපුව ඇතුලේ වේදනා දුක් ගිනි ඇවිලි ඇවිලී බුදුරජාණන් වහන්සේ ළඟට ඇතැම් අය එන්නෙ. අමෘතය ලබාගෙන සැනසෙනවා බුද්ධ ශාසනයේ. හිඟාකමින් යද්දි හිඟමනට යමක් හොයාගෙන බුදුරජාණන් වහන්සේ ළඟට එනවා, බුදුරජාණන් වහන්සේගෙන් ඒ අයට අමෘතය ලැබෙනවා. ඒ තමයි බුද්ධ ශාසනය. ඒ නිසා දැන් ඇතැම් වෙලාවට අපේ අසපු භූමිවල වුනත් සෑරජාණන් වහන්සේලා ඉදි කරනකොට, විහාර කර්මාන්ත කෙරෙනකොට ඒවගේ වැඩ කරන්න ඇතැම් පින්වතුන්ලා ආවෙ. ඒ විහාර කර්මාන්ත වල ඉදිකිරීම් කටයුතු වලට තමයි ඇතැම්හු අසපු වලට ආවෙ. හැබැයි පැමිණියාට පස්සෙ ඒගොල්ලන්ට ඇහෙනවා ස්වාමීන් වහන්සේලා බුදුරජාණන් වහන්සේගේ ධර්මය කියනවා. තමන් මේසන් වැඩේ කරන්න ආපු තැන. එහෙම නැත්නම් තමන් අත්උදව් දෙන්න ආපු තැන. ඒ ගොල්ලන්ට බණ පද ඇහුනා, ඒ තමයි පින්වතුනි බුද්ධ ශාසනය. ඒ නිසා මේ හරීම ලස්සනයි චන්දා තෙරණියගේ මේ සිදුවීම. ඇය භික්ෂුණී ආරාමයට පැමිණුනේ කෑම ටිකක් හොයාගෙන. අවසානයේ ඇයට ලැබුනේ අමෘතය. බුද්ධ ශාසනයේ පැවිදි වුනා. පැවිදි වෙලා ඉතාම කෙටි කාලයයි පටාචාරා තෙරණින් වහන්සේ අවවාද අනුශාසනා සිද්ධ කරනකොට ඒ අවවාද අනුශාසනා වලට අනුවම ජීවිතේ ගත කලා, නොබෝ කලකින්ම රහත් තෙරණින් වහන්සේ නමක් බවට පත්වුනා. අර්හත්වයට පත්වෙච්චි චන්දා තෙරණින් වහන්සේ පිරිනිවන් පානා අවධියේදී මෙන්න මේ ලස්සන අවවාද ගාථා විදියට දේශනා කලා. ඉස්සර මං ජීවිතේ ගත කලේ ස්වාමියත් නැතිව, දූදරුවනුත් නැතිව මං ගොඩාක් දුක් වින්දා. ඒ කියන්නෙ කොයි කාලෙ ගැනද පින්වතුනි, වසංගත රෝගය නිසා වෙච්චි ව්‍යසනය ගැන. වසංගත රෝගය නිසා ව්‍යසනයට පත්වෙලා ස්වාමියාත් නැතිවෙලා, දූදරුවොත් නැති වෙලා ගොඩාක් දුක්වින්දා කියනවා. නෑ මිතුරන් ද නැති මට කන්න අඳින්න කිසිදෙයක් වත් තිබුනේ නෑ. හිටපු ඥාතීන් ඔක්කොමලා නැති වෙච්චි ඇයට කන්න අඳින්න දෙන්න කෙනෙක්වත් උන්නේ නෑ කියනවා. මං මැටි භාජනයකුත් අරගෙන හැරමිටියකුත් අරගෙන ගෙයින් ගෙට හිඟා කකා ගියා. සීතලෙන් අව්වෙන් පීඩා විඳ විඳා හත් අවුරුද්දක්ම ගෙවිලා ගියා. එතකොට මේ චන්දා කියන කාන්තාවට විඳවන්න සිද්ධ වුනා ඥාතීන් නැතිව භෝග සම්පත් නැතිව හිඟා කකා ගතකරන්න සිද්ධ වුනා අවුරුදු හතක්. බලන්න පින්වතුනේ සාමාන්‍යයෙන් බාහිරින් බලනකොට නම් මිනිස්සුන්ට හිතෙන්න ඇති මේ චන්දාව දකිනකොට මහා කාලකණ්ණි කාන්තාවක්. මහා කාලකණ්ණි

ගැනියක්. මේ කාලකණ්ණි කාන්තාවට තමන්ගේ ආදර දරුවෝත් නැතිව ගියා, ස්වාමිපුරුෂයාත් නැතිව ගියා, හිටපු ඇයො ඔක්කොමත් නැතිව ගියා. දේපළ සම්පූර්ණයෙන් නැතිව ගියා කියලා සාමාන්‍යයෙන් බාහිරින් බලපුවාම එහෙම හිතෙන්න ඇති. ඇතැම්හු එහෙම පරිභව කරන්නත් ඇති. ඇයි ලෝකෙ දිහා බලපුවාම කෙනෙකුට හිතෙන්නේ සල්ලි තිබීමයි දියුණුව, ඥාතීන් ඉදීමයි දියුණුව, බෝග සම්පත් තිබීමයි දියුණුව, පිළිගැනීම් තිබීමයි දියුණුව, මේක තමයි සාමාන්‍යයෙන් ලෝකෙට ප්‍රියම දේ. සාමාන්‍ය ලෝකයාට පෙනෙනවා මේක තමයි දියුණුව. ඒත් පින්වතුනේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය අනුව කල්පනා කරනකොටයි අපිට පේන්නෙ හැබෑවටම දියුණුව බවට පත්වෙන්නෙ ප්‍රඥාව තිබීම කියලා. ප්‍රඥාව නැතිව කොච්චර ධන සම්පත් තිබුනත් ඒ ධන සම්පත් වලින් මත්වෙන තැනැත්තා ප්‍රඥාව නැති නිසා සිත කය වචනයෙන් අකුසල් කරනවා. ධන සම්පත් ඔක්කොම අත්හැරලා දාලා මැරෙනකොට දුගතියේ උපදිනවා. ගොඩාක් ඥාති සමූහයා ඉන්න මිනිස්සු ඒ ඥාතී සමූහයා පිරිවර සම්පත්තියෙන් මත්වෙලා සිත කය වචනයෙන් අකුසල් කරනවා ප්‍රඥාව නැති නිසා. මේ ප්‍රඥාව නැති තැනැත්තා සිත කය වචනයෙන් අකුසල් කර කර ඉඳලා ඥාතීන් ඔක්කොම අත්හැරලා මැරිලා යනකොට දුගතියේ යනවා. ගොඩාක් කීර්ති ප්‍රශංසා ලැබෙන මිනිස්සු ප්‍රඥාව නැත්නම් ඒ කීර්ති ප්‍රශංසා වලින් මත්වෙලා සිත කය වචනයෙන් වැරදි කරනවා. වැරදි කරලා මනුස්සයා මියපරලොව යනකොට කීර්ති ප්‍රශංසා ඔක්කොම මෙහෙ තියලා මිනිහා යනවා. මියපරලොව ගියාට පස්සෙ එයා දුගතියේ උපත ලබනවා ප්‍රඥාව නොතිබුනු නිසා. එහෙනම් පිරිහීම් අතරේ ලොකුම පිරිහීම ප්‍රඥාවේ පිරිහීමයි. ධනය පිරිහුනා කියා පින්වතුනි දුගතියේ යන්නේ නැත. භෝග සම්පත් පිරිහුනා කියා දුගතියේ යන්නේ නැත. කීර්ති ප්‍රශංසා නැතිවුනා කියා දුගතියේ යන්නේ නැත. තමන්ට ඉන්න ඥාති පිරිවර නැති වුනා කියා දුගතියේ යන්නේ නැත. හැබැයි ප්‍රඥාව නැතිවුනොත් නම් දුගතියේ. පිරිහීම අතර දරුණුම පිරිහීම ප්‍රඥාවේ පිරිහීමයි. යම් දියුණුවක් ගැන ජීවිතයේ කතා කරනවා නම් බෝග සම්පත් ගොඩාක් තිබුනා කියලා ඔහු සුගතියේ යන්නේ නැත. ඥාති පිරිවර ගොඩාක් හිටියා කියා සුගතියේ යන්නේ නැත. ධන සම්පත් බහුල වශයෙන් තිබුනා කියා සුගතියේ යන්නේද නැත. කීර්ති ප්‍රශංසා බොහෝ කොට තිබුනා කියා සුගතියේ යන්නේද නැත. හැබැයි ප්‍රඥාව තිබුනොත් ඒ ප්‍රඥාව හේතු කරගෙන එයාට සුගති සැපය, ධර්මාවබෝධය, නිවන් සැපය මේ හැමදේම ලැබිය හැක්කේය. එහෙනම් දියුණු වීම් අතරේ, වැඩීම් අතරේ වඩාත්ම වටින්නේ මොකක්ද,

ප්‍රඥාවේ වැඩීමයි. අවුරුදු හතක් විඳවා විඳවා හිටියත් ප්‍රඥාවෙන් වැඩෙන්න වාසනාවක් මේ චන්දාවට තිබුනා. දවසක් හොඳට කෑම බීම ලැබෙන පටාචාරා භික්ෂුණිය දැකගන්න ලැබුනා. බලන්න ඒ භික්ෂුණිය දැකගත්ත විදිය ගැන මේ චන්දා තෙරණින් වහන්සේ කියන්නෙ කොහොමද. හිඟන්නියක් විදියට හිඟා කාගෙන එනකොට ඇයට මේ භික්ෂුණීන් වහන්සේලා අතරින් දකින්න ලැබුනේ සිල් ගුණයක් හෝ සංවරයක් හෝ එහෙම දෙයක් නෙවෙයි. හොඳට කෑම ලැබෙනවා. හොඳට කෑම බීම ලැබෙන පටාචාරා භික්ෂුණියව මට දැකගන්න ලැබුනා. ඉතින් මං ඇය කරා ගිහින් මේ පැවිදි බව ඉල්ලා හිටියා. මං පැවිද්ද ඉල්ලුවා. සාච මං අනුකම්පාය පබ්බාජේසි පටාචාරා - ඒ පටාචාරා භික්ෂුණිය මට ගොඩාක් අනුකම්පා කලා. මාව මහණ කලා, මට අවවාද කලා. තථොමං ඔව දිත්වාන පරමත්ථෙ නියෝජයේ - මට අවවාද කරලා මාව උතුම් අර්ථයේම යෙදෙව්වා. තස්සාහං වචනං සුත්වා අකාසෙන් අනුසාසනේ - ඒ උත්තමාවියගේ වචන අසාගත්ත මං ඒ අනුශාසනාව අනුවම කටයුතු කලා. අමෝගේ අයියෝගෝ වාදො දේවිජ්ජං මි අනාසවා - ඒ භික්ෂුණියගේ අවවාද හිස් දෙයක් නොවෙයි. දැන් මං ත්‍රිවිද්‍යාලාභී නිකෙලෙස් කෙනෙක්. ඔන්න ඔය විදියට තමයි ඒ චන්දා නම් වූ රහත් තෙරණින් වහන්සේ මේ ගෞතම ශාසනයේ නිවනින් සැනසුනේ. ඉතින් ඒ නිසා පින්වතුනේ බලන්න මේ බුද්ධ ශාසන ලාභය කියන එක බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය ලැබීම කියන එක ඒක පින්වතුනි මනුස්සයෙක්ගේ ජීවිතයට ලැබෙන මේ ජීවිත කතාවේ ලැබෙන වටිනාම ලාභය, බුදුරජාණන් වහන්සේගේ දහම් පද මුණගැහීම. ඒ ධර්මය ඒ අයුරින්ම කියාදෙන කල්‍යාණ මිත්‍ර සත්පුරුෂයෝ මුණගැහීම. තමන් කෑම ටිකක් හොයාගෙන යන තැනත් කල්‍යාණමිත්‍ර සත්පුරුෂයෝ බුදු බණ කියපු අය සිටි නිසා ජීවිතේ දිනන්න ලැබුනා. ජීවිතේ සැපවත් කරන්න ලැබුනා. ඉතින් අපිටත් ඒ වගේ අවස්ථාවක් තමයි මේ උදාවෙලා තියෙන්නෙ. අපි කොහේහරි ලෝකයක ඉඳලා කොහේහරි ආත්මයකින් චුත වෙලා අපි උපන්නෙ මනුස්ස ජීවිතේ. මනුස්ස ජීවිතේ උපදිනකොටත් උපදින්න තව ගොඩාක් රටවල් දේශ දේශාන්තර තියෙද්දි අපි උපන්නේ ලංකාවේ. මේ ලංකා භූමියේ ඉපදලා අපිට බුදුබණ පද අහන්න ලැබෙනවා. අපේ ජීවිතයට සරණක් පිහිටක් හදාගන්න අවස්ථාව. ඒකට අවස්ථාවයි මේ උදාවෙලා තියෙන්නෙ. හැබැයි ඉතින් ජීවිතේ හැන්දක් වගේ කරගත්තොත් නම් ඒ අවස්ථාව ඔහේ අහිමි වෙලා යයි. ඒ නිසා හරියට හොද්දක රස අඳුනගන්න දක්ෂ වෙන දිවක් වගේ ලැබිච්ච සත්පුරුෂ ඇසුර සත්පුරුෂ ධර්මය අවබෝධ කරගන්න දක්ෂයෝ බවට පත්වෙන්න ඕන

අපි. ඉතින් මේ චන්ද්‍රා කියන රහත් තෙරණින් වහන්සේට නමස්කාර කරමින් අපිත් අධිෂ්ටානයක් ඇති කරගනිමු අපිටත් මේ ලැබිච්ච දුර්ලභ මොහොතේ සත්පුරුෂයන් වහන්සේලා හමුවෙච්චි, තෙරුවන් සරණ යන්න ලැබිච්චි, බුදුරජාණන් වහන්සේගේ උතුම් බණ පද අහන්න ලැබිච්චි මේ දුර්ලභ මනුස්ස ජීවිතේ අපිටත් බුදුරජාණන් වහන්සේගේ ශාසනය තුළ පිහිට පිළිසරණ රැකවරණ සලසාගෙන රහතන් වහන්සේලා සැනසුනු, අර්හත් උත්තමාවියන් සැනසුනු අමා නිවනේ සැනසෙන්න අපිටත් වාසනාව ලැබෙන්වා. සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අපි අනුමෝදන් කරමු සක්දෙවිඳුන් සතරවරම් දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවියෝ සතුටින් පින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන් වෙන දෙවියෝ දිව්‍ය සැපයෙන් දිව්‍ය ආශ්චර්යයෙන් වැඩේවා. ඒ සියලු දෙවියෙන්ගේ රැකවරණ අපි හැමදෙනාට දෙවියෝ සලසා දෙත්වා. දෙවියෝ ද සසර දුකින් අතමිදේවා. සාදු සාදු සාදු!!! ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ සියලූම පින් අනුමෝදන් වෙත්වා. නිදුක් නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සැලසේවා. මේ ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද ධර්ම දානය සිදු කරන ඒ පින්වතුන්ලාගේ නමින් මීට වසර 2කට පෙර මියපරලොව යන්න යෙදුනු පින්වත් රණසිංහ ජයරත්න පියාණන්ටත්, වසර 11 කට පෙර මියපරලොව ගියපු පින්වත් පී.ඩී. ගුණරත්න පියාණන්ටත්, ඉන්ද්‍රාණි රණසිංහ මෑනියන්ට, පුංචිබණ්ඩා හේරත් පියාණන්ට, ජයතිලක මෑණියන්ට, උදයනන්ද පියාණන්ට, විමලසේන පියාණන්ට, ප්‍රඥාවතී මෑණියන්ට, මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා. තමන්ගේ නමින් මියපරලොව ගියා වූ සියලු ඥාතී හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන්ව ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා. අපගේ ඥාතීන් මේ දුක් සහිත සසර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදනා කරන්න. ජූනි මාසෙ 5 වන දින උපන්දිනය සමරන පින්වත් ජනක හේරත් මහතාට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. ජූනි මාසෙ 17 වෙනි දින ජන්ම දිනය සැමරූ පින්වත් රෝහිණී මහත්මියට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා. ජූනි මාසෙ 28 වන දින ජන්මදිනය සමරන පින්වත් ප්‍රසාද් සුරංග මහතාට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා. ඒ ජන්ම දිනය සැමරූ

පින්වතුන්ලාට නිදුක් නිරෝගී සුව දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. අද දායකත්වයන් දරනු ලබන්නේ ඇල්වල උකුවෙල පදිංචි පින්වත් ශිරෝමී ජයරත්න, ක්‍රිශාන්ති ජයරත්න, ඉන්ද්‍රාමැණිකේ, හංසික තුංගරත්න, ප්‍රසාද් චතුරංග, හිමායා අමායා යන දියණියන්, කොරියාවේ සේවයේ නියුතු මංජුල ගුණරත්න, දඹුල්ලේ පදිංචි අමාලී ගුණරත්න, ජනක හේරත්, අනූෂා, චමින්ද මන්දාර පුතණුවන්, රෝහිණී, ලක්ෂිකා තිලකරත්න, ශෂින්ද්‍රා, ප්‍රභා කුමාරී දියණිය, තාරකා දියණිය, මුදිතා දියණිය, ගුණවතී මැණියන්, රංජනී කුමාරි, සුමේධා මහත්මිය, හේමමාලි මහත්මිය යන මේ පින්වතුන්ලා හැමදෙනා එකතු වී තමයි අද මේ දායකත්වයන් දරනු ලබන්නේ. ඉතින් ඒ සෑම සියලු දෙනා හට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා. ඒ විදේශගතව කටයුතු කරන ඒ සුපින්වතුන්ලා හැමදෙනාට විදේශ වල සිදු කරන ඒ සියලු කටයුතු කිසීම කරදරයකින් බාධාවකින් තොරව සිද්ධ කරගන්න ලැබේවා. හැමදෙනාට තමන්ගේ ජීවිතයේ කරන කියන රැකී රක්ෂා ආදී කටයුතු කිසිම කරදරයකින් බාධාවකින් තොරව සුවසේ සිදු කරගන්න ශක්තිය ධෛර්යය වාසනාව තෙරුවනේ ආශිර්වාදය සැලසේවා. මේ දූ දරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදියත් සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා. තෙරුවන් සරණින්, සියලු දෙවියන්ගේ රැකවරණින් ධර්ම දානය සිදු කරපු සුපින්වතුන්ලාට සියලු යහපත අභිවෘද්ධිය උදාවේවා, නිදුක් නිරෝග සුව, චිර ජීවන සම්පත්තිය සැලසේවා. ශ්‍රද්ධා මාසික ධර්මදාන සාමාජික පින්වතුන්ලාටත් ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සෑම සියලු දෙනාටත් සුපින්වත් ඔබ හැමදෙනාටත් පින් අනුමෝදන්ව තෙරුවන් සරණින් සියලු දෙවියන්ගේ රැකවරණයෙන් සියලු යහපත උදාවේවා. ගෞතම බුද්ධ ශාසනය තුළ හැමදෙනාට චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. ඔබ හැමදෙනාට තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=MudtGF333AQ

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වතුනි, අපි හැමදෙනාගේම මේ ජීවිතේ නොයෙක් කටයුතු මැද නොයෙක් සිදුවීම් මැද ගතවෙද්දි පින්වතුනේ මේ ජීවිතේට හරියට මුහුණ දෙන්න සිදුවෙන දෙයක්, අනපේක්ෂිත කරදර, කම්කටොළු. හැමදෙනාගේම ජීවිත වල මේ ජීවත් වෙන කාල වකවානුවේ නොයෙක් නොයෙක් කරදර වලට නොයෙක් නොයෙක් කම්කටොළු වලට, නොයෙක් නොයෙක් උපද්‍රව වලට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. ජීවිතේට එහෙම කරදර කම්කටොළු එද්දි පෞද්ගලිකව අපට හිතෙනවා අපටමයි ප්‍රශ්න. අපිටමයි කරදර. අපිටමයි මේ හැමදේම කඩාපාත් වෙන්නෙ කියලා අපිට සාමාන්‍යයෙන් පෞද්ගලිකව හිතෙනවා. හැබැයි හොඳට ලෝකය දිහා නුවණින් කල්පනා කරලා බැලුවොත් අපිට තේරෙන දෙයක්, මේ ප්‍රශ්න කම්කටොළු කියන ඒවා අපිට විතරක් පෞද්ගලික ඒවා නෙවෙයි. මේ මනුස්ස ලෝකෙ උපන්න මිනිස්සුන්ට, මේ සංසාර ගමනේ යන සත්වයාට පොදුවේ එන එකක් කරදර, කම්කටොළු, දුක්ගිනි. ඉතින් ඒක අද ඉගෙන ගන්න මේ ධර්මයෙන් හොඳට තේරෙනවා, මේ ප්‍රශ්න කරදර එනකොට අපිට හොඳට හිතන්න ක්‍රමයක් අද මේ ධර්මයෙන් ඉගෙන ගන්න පුලුවන්. ප්‍රශ්න අභියෝග ඉස්සරහ කඩාගෙන වැටෙන්නැතිව ශක්ති සම්පන්නව නුවණින් කල්පනා කරන්න පුලුවන් විදියක් අද මේ ධර්මයෙන් අපිට ඉගෙන ගන්න පුලුවන්. අද මේ දේශනාව සඳහා දායකත්වයන් දරනු ලබනවා රාගල මන්ත්‍රී තැන්න බේකරියවත්ත නිවසේ පදිංචි 2021 ජූනි මාසේ 22 වෙනිදාට 78 වෙනි ජන්මදිනය යෙදුනු පින්වත් එන්.ඩබ්ලිව්.එම්. යසෝමැණිකේ මැණියන් ඇතුළු ඒ දූදරු පිරිස විසින්. ඒ පින්වතුන්ලා තමන්ගේ ජීවිතේ නොයෙක් පුණ්‍ය ප්‍රාර්ථනා බලාපොරොත්තු තියාගෙනයි අද දවසේ මේ උතුම් ධර්ම දානමය පින්කම සිද්ධ කරන්නෙ. ඒ අමා නිවන් දුටු රහත් තෙරණිවරු මේ දේශනා මාලාවේ අද ධර්මයෙන් අපිට ඉගෙන ගන්න ලැබෙන්නේ එක රහත් තෙරණියක් ගැන නෙවෙයි. රහත් තෙරණින් වහන්සේලා පන්සිය නමකගේ සිද්ධියක්. මේ පන්සිය නමම පින්වතුනේ පෙර සසර ගමනේ පින් පුරාගෙන ආපු පිරිසක්. ඒ පින් පුරාගෙන ආවෙ කුමක් පිණිසද? මේ ගෞතම ශාසනයේ ධර්මාවබෝධයෙන් සැනසීම පිණිස.

ධර්මාවබෝධයෙන් ජීවිතේ මුළුමනින්ම සුවපත් කරගන්න පින පිරිලා තිබුනු පන්සිය දෙනෙක් මනුස්ස ලෝකෙ උපන්නා. තිලෝගුරු අපගේ බුදුරජාණන් වහන්සේ මේ ලෝකයේ පහළ වෙන යුගයේ ඇලා දඹදිව් තලයේ මනුස්ස දූලා විදියට උපන්නා. ඉපදිලා තරුණ වයසට ආවට පස්සෙ නිවෙස් වලින් සුදුසු විවාහ සිදු කරලා ඇලාව බන්දලා දුන්නා. විවාහපත් වුනාට පස්සෙ ඇලා හැමෝටම දරු පැටව් ලැබුනා. දරු පැටව් ලැබුනහම දෙමව්පියන්ගේ ලෝකයේ ඒ දරුවන් වෙනුවෙන්ම සම්පූර්ණයෙන් දෙමව්පියන් කැප කරනවා. අම්මා තාත්තා දෙන්නා දරු පැටව් ලැබුනාට පස්සෙ තමන්ගේ ජීවිතේ සම්පූර්ණයෙන්ම දරුවො වෙනුවෙන් කැප කරනවා. ඊටපස්සෙ හම්බ කරන ටිකත් දරුවන්ට. සැප සම්පත් ඔක්කොම ටිකත් දරුවන්ට. සතුටු වෙන හැමදේත් දරුවන්ට. ඉතිරි කරන ටිකත් දරුවන්ට. හිතුවිලි හිතන්නෙත් දරුවො ගැන. සම්පූර්ණයෙන් දෙමව්පියො අම්මා තාත්තා දෙන්නා දරුවන්ගේ දියුණුව වෙනුවෙන්, දරුවන්ගේ සැපය වෙනුවෙන්, දරුවන්ගේ සුවය වෙනුවෙන් කටයුතු කරන් නැද්ද? සම්පූර්ණයෙන්ම දෙමව්පියන්ගේ ලෝකෙ දරුවෝ බවට පත්වෙනවා. ඉතින් මේ පන්සීයක් තරුණ අම්මාවරුන්ටත් තමන්ට ලැබිච්චි දරු පැටව් ලෝකය බවට පත්වුනා. දැන් දරුවන්ගේ මුකුළු සිනාහා බල බල හරී සන්තෝෂ වෙනවා. මල් මෝරනවා වගේ මේ දරු පැටව් ටික ටික මෝරනකොට හරි සතුටුයි. දරුවො මේ දණ ගාගෙන එහෙට මෙහෙට ඇවිදිනකොට ඒ ඇවිදිල්ල ඒ අම්මලාගේ හිත සම්පූර්ණයෙන් සතුටු කරනවා. ඒ දරු පැටව් මොකක්හරි අල්ලගෙන දණගාන දරුවො නැගිටිනකොට අම්මලාට සන්තෝෂෙ. ඉතින් මෙහෙම අම්මලාගෙ හිත අර දරු පැටවුන් කෙරෙහි ආදරෙන් බැඳිලා, සෙනෙහසින් බැඳිලා දරුවන් වෙනුවෙන්ම හිත පිරී තියෙද්දී ඒ දරුවන්ට හදිසියේම මේ ලෝකය දාලා යන්න සිද්ධ වුනා. ඒ දරුවො මියපරලොව ගියා. පින්වතුනි මේ ලෝකෙ කොච්චර ඔය වගේ සිදුවීම් වෙනවා ඇත්ද. අද කාලෙ වුනත් පුංචි දරු පැටව්, සිඟිති දරු පැටව් මේ අම්මලාව තාත්තලාව හඬව හඬවා මිය යනවාද. ඉතින් එහෙම සිද්ධ වුනා. ඉතින් මේක සිද්ධ වුනේ එක්කෙනෙකුට දෙන්නෙකුට නෙවෙයි, පන්සිය දෙනෙකුට. ඔය දඹදිව බුදුරජාණන් වහන්සේගේ බණ පද ඇහෙන සීමාවේ හිටපු පන්සිය දෙනෙකුට මේ උපද්‍රවයට මුහුණ දෙන්න සිද්ධ වුනා. ඒකයි මං කිව්වේ මේ ප්‍රශ්න කියන ඒවා, එක විදියේ ප්‍රශ්න කියන ඒවා එක්කෙනෙකුට වෙනවා නෙවෙයි. හැමෝටම වෙනවා. හැම කෙනෙකුටම මේ ජීවිතේ ගත කරද්දි ඒ ජීවිත වලට කරදර, කම්කටොළු, උපද්‍රව, අනපේක්ෂිත සිදුවීම් මේවා එනවා. මේවා එනකොට අඬන්න වැළපෙන්න, මහා දුක් ගිනි වලින් පපුව

පිච්චීගෙන දඟලන්න සිද්ධ වෙනවා. සංසාරය. මේක තමයි සංසාරයේ ස්වභාවය. ඒ නිසාමයි භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මහා කාරුණිකයන් වහන්සේ දේශනා කලේ මහණෙනි, සසර දුක් සහිතයි. මේ දුක් සහිත සසරින් නිදහස් වෙයල්ලා කියලා. සාංසාරික ගමනක අපි නොයෙක් ජාති වල ඉපිද ඉපිද එනකොට ඒ උපදින ජාති වලදි අපිට නොයෙක් නොයෙක් ප්‍රිය බන්ධන හැදුනා. ස්වාමියා බිරිඳ විදියට ප්‍රිය බන්ධන හැදුනා. දරුවො දෙමව්පියො විදියට ප්‍රිය බන්ධන හැදුනා. සහෝදරයො සහෝදරයො විදියට, සහෝදරයො සහෝදරියො විදියට මෙහෙම සොහොයුරු බන්ධන හැදුනා. මිත්‍ර බන්ධන හැදුනා. නොයෙක් බැඳීම් අපිට හටගත්තා. ඒ හටගත්තා වූ බැඳීම් වල අපි සතුටු වෙන්න උත්සාහ කරනකොට අපේ ප්‍රිය ඥාතීන් එක්ක ප්‍රිය හිතවතුන් එක්ක සතුටු වෙන්න උත්සාහ කරනකොට අපිට ප්‍රිය ඥාතීන් අහිමි වෙනවා මේ සසරෙ. මේ සංසාරෙ එනකොට අපි අම්මලා වෙලා ඉද්දි අපිට අපේ දරුවො අහිමි වෙද්දි අපි ඇඬුවා. අපි තාත්තලා වෙලා ඉද්දි අපේ දරුවො අහිමි වෙද්දි අපි ඇඬුවා. අපි ස්වාමිවරු වෙලා ඉද්දි බිරින්දෑවරු අහිමි වෙද්දි ඇඬුවා. අපි බිරින්දෑවරු වෙලා ඉද්දි ස්වාමිවරු අහිමි වෙද්දි අපි ඇඬුවා. අපේ සහෝදරයො, අපේ හිතමිත්‍රාදීන්, අපේ අම්මා තාත්තා ඒ අහිමිවීම් ඉස්සරහා අපි ඇඬුවා. බුදුරජාණන් වහන්සේ එක අවස්ථාවක අහනවා මහණෙනි, ඔබට මොකක්ද හිතෙන්නෙ? මේ අතිදීර්ඝ සංසාර ගමනේ ප්‍රියමනාප ඥාතීන් අහිමි වෙද්දී ඔබ අඬනකොට වැළපෙනකොට දෑහින් වැගිරුණා වූ කඳුළු ද වැඩි ඇත්තේ, එහෙම නැත්නම් මේ සතර මහා සාගරයේ ජලය ද වැඩි ඇත්තේ? භික්ෂූන් වහන්සේලා කියනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, මහා කාරුණික වූ අපගේ තථාගත බුදුරජාණන් වහන්සේ දේශනා කරපු ධර්මය ගැන අපිට තේරෙන විදියට නම් ස්වාමීනී මේ අතිදීර්ඝ සංසාර ගමනේ අපිට ප්‍රිය අය අහිමි වෙනකොට අපි අඬද්දි වැළපෙද්දී යම් කඳුලක් ගැලුවා නම් ස්වාමීනී කඳුළුමයි වැඩි ඇත්තෙ, කඳුළුමයි, සතර මහා සාගරයේ ජලය වෙන්න බෑ කිව්වා. බුදුරජාණන් වහන්සේ වදාරනවා සාදු සාදු මහණෙනි, මහණෙනි බොහෝම හොඳයි ඔබ මේ සංසාර ගමන ගැන තේරුම් අරන් ඉන්න විදිය. මේ දුක් පිරුනු සංසාර ගමනේ මහණෙනි ප්‍රියමනාප අය වෙන්වෙනකොට ඔබ හඬද්දී වැළපෙද්දී ගැලූ කඳුළුමයි වැඩි, සතර මහා සමුද්‍රයේ එච්චර වතුර නෑ කිව්වා. එච්චර අඬලා. එච්චර අඬ අඬා ආපු අපි පින්වතුනේ මේ ජීවිතේ නොහඬා ඉන්නවාද, තාම අඬනවා. තාම අඬන්න දේ කොතෙකුත් ජීවිතේට එනවා. ඒ ජීවිතේට අඬන්න දේවල් එනකොට අපිට හිතෙනවා මේවා අපිටමයි වෙන්නෙ, අපිටමනේ මේ ප්‍රශ්න. සමහරු කියනවා

මෙච්චර පින් කරන අපිටමයි ප්‍රශ්න. මෙච්චර දන් දෙන අපිටමයි ප්‍රශ්න. බෝධිපූජා කරන අපිටමයි ප්‍රශ්න. සෑ වඳින අපිටමයි ප්‍රශ්න. සමහරු එහෙම කියනවා. ඒ මොනවා මොනවා හරි කිය කියා අපි හිතනවා ප්‍රශ්න අපිටමයි, අනික් ඇයෝ හොදට සිටියි කියලා. නමුත් මේ අද ඉගෙන ගන්න රහත් තෙරණිවරු පන්සිය නමකගේ ජීවිතය බලපුවාම පේනවා බලන්න පින්වතුනේ තමන්ට හිටපු ආදර දරු පැටවු, සිඟිති දරු පැටව් අහිමි වීමේ දුක දරන්න සිද්ධ වුනා තරුණ කාන්තාවො පන්සීය දෙනෙකුට. මේ අහිමි වීමේ දුක කියලා කියන්නෙ හරි වේදනාකාරී එකක්. බුදුරජාණන් වහන්සේ වදාළා කත මෝ ච භික්ඛවෙ පියේහි විප්පයොගො දුක්ඛො - මහණෙනි මේ සසර ගමනක යනකොට විඳවන්න සිද්ධ වෙන ප්‍රිය විප්පයෝග දුක්ඛය කියා කියන්නෙ මොකක්ද? ඉද අස්සතෙ හොන්ති ඉට්ඨා කන්තා මනාපා - මේ සත්වයන්ට තියෙනවා තමන්ගේ සිතට ප්‍රියමනාප වූ තමන්ගේ ජීවිතයට ප්‍රියමනාප වූ රූප, ශබ්ද, ගන්ධ, රස, පහස අරමුණු කියලා දේවල්. අන්න ඒ අරමුණු වලින් ඒ කෙනාට වෙන් වෙන්න සිද්ධ වෙනවා. ඒවා පනස්සතෙ හොන්ති අත්තකාමා හිතකාමා පාසුකකාමා - ඒ අරමුණුවලින් තමයි තමන්ට අර්ථය සිද්ධ වෙන්නෙ. තමන් එක්ක එකට ඉන්න ප්‍රිය අය නිසා තමන් එක්ක එකට වාසය කරන ප්‍රිය පුද්ගලයො නිසා ඊළඟට තමන් එකතු කරගත්ත ප්‍රිය දේවල් නිසා තමන්ට හරි පහසුවක් තියෙනවා. හිතකාමා - තමන්ට හිත පිණිස පවතිනවා. පාසුකකාමා - තමන්ට හරි පහසුයි. යෝගක්කේකකාමා - තමන්ට රැකවරණයක් දැනෙනවා. මාතාවා පිතාවා භාතාවා භගිනිවා - බුදුරජාණන් වහන්සේ වදාළා මහණෙනි හරියට මව්, අම්මා කියලා කියන්නෙ තමන්ට ප්‍රියමනාප තමන්ට රැකවරණය පිණිස ඉන්න කෙනෙක්. තාත්තා කියලා කියන්නෙ තමන්ගේ ජීවිතේට රැකවල් හදන ප්‍රියමනාප කෙනෙක්. ඊළඟට තමන්ගේ සහෝදරයා කියලා කියන්නෙ බොහෝම ප්‍රියමනාප කෙනෙක්. තමන්ගේ සහෝදරී කියන්නෙ ප්‍රියමනාප කෙනෙක්. ජෙට්ඨා වා කණිට්ඨා වා - වැඩිමහල් සහෝදරයො ඉන්නවා, බාල සහෝදරයො ඉන්නවා. මිත්තා වා අමච්ඡා වා - මිත්‍රයො ඉන්නවා, ඊලඟට ඥාතීසාලෝහිතා වා - ඥාතීන් ඉන්නවා. ඒ හැමදෙනාගෙන්, යාතේ හි සද්දින් අසංගති අසමාගමො අසමො දානං අවිස්සි භාවො - මේ අයත් එක්ක කෙනෙක් කැමැති කොහොමද, එකට ජීවත්වෙන්න. හැබැයි එකට ජීවත් වෙන්න කැමැති කෙනාට එකට ජීවත් වෙන්න බැරි වෙනවා. මේ අයත් එක්ක එකට සතුටින් හිනහවෙලා ඉන්න තමයි කැමැති. එහෙම ඉන්න කැමැති වුනාට එහෙම ඉන්න බැරිව යනවා. එක සමාගමයකටයි කැමැති. එහෙම කැමැති වුනාට එක

සමාගමේ ඉන්න බැරිව යනවා. අනිස්සි භාවෝ - මිශ්‍ර වෙලා ඉන්නයි කැමැති. මිශ්‍ර වෙලා ඉන්න කැමැති වුනාට මිශ්‍ර වෙලා ඉන්න බැරිව යනවා. ඉතින් එහෙම ජීවිත වලට උපද්‍රව එනවා, ප්‍රිය අයට ප්‍රිය දේ වෙන් වෙද්දි. දැන් මේ තරුණ අම්මා වරුන්ට ඔන්න ඔය ප්‍රශ්නෙ ආවා. ඔය ප්‍රශ්නෙ නිසාම ජීවිතේ තමන් ආදරේ කරාපු තමන් සෙනෙහසින් බැඳී හිටපු දරු පැටව් අහිමි වීම නිසාම මේ තරුණ අම්මලා බණ අහන්න එකතු වුනා. ජීවිතේට ප්‍රශ්න ආපුවාමනෙ ගොඩාක් දෙනෙක් ධර්මයක් හොයන්නෙ. ජීවිතේට කරදර ආපුවාම තමයි ගොඩාක් දෙනෙක් ධර්මයක් හොයන්නෙ. ජීවිතේට කරදර වෙන මිනිස්සු අතරෙ කරදරයක් ආපුවාම ධර්මයක් හොයන මිනිස්සු වාසනාවන්තයි. ඒකට හේතුව ඒ මිනිස්සුන්ට ඒ කරදරය මුල් කරගෙන හරි ජීවිතේට යහපතක් හදාගන්න පුලුවන් වෙනවා. දැන් බලන්න මේ කාන්තාවෝ පන්සිය දෙනා ජීවිතේට අනපේක්ෂිත සිද්ධියක් ඇවිල්ලා ආදරය කරපු දරු පැටව් වෙන් වුනාට පස්සේ ඒ අය හිත සනසාගන්න යොමුවුනේ බණ පද අහන්නයි. බණ පද අහන්න ගියේ පටාචාරා කියන භික්ෂුණිය ළඟට. මේ පටාචාරා භික්ෂුණීන් වහන්සේ ගත්තොත් එහෙම පටාචාරා භික්ෂුණිය කියලා කියන්නෙ පින්වතුනේ ගෞතම ශාසනයේ පැවිදි වෙන්න පෙර ඈ වින්ද දුක්ගිනි. මේ ගෞතම ශාසනයේ සරණ ලබන්න පෙර ඈ වින්ද දුක් ගිනි. ඈ කොච්චර නම් දුකට පත්වෙච්චි කාන්තාවක්ද. එකම එක දවසක, එකම දවසක ඈට ඔක්කොම අහිමි වුනානෙ. ඇය ආදරය කරපු ස්වාමිපුරුෂයෙක් හිටියා. ඒ ස්වාමිපුරුෂයා මහාපාරෙ මියගියා. ස්වාමිපුරුෂයාගේ මෘත ශරීරයේ අවසාන කටයුත්තක් පිළිවෙලකට කරගන්නවත් ඈට විදියක් නෑ. තමන්ගේ ස්වාමිපුරුෂයාගේ මිනිය අතුකොල වලින් වහලා අඬ අඬා එන්න සිද්ධ වුනා. ස්වාමිපුරුෂයා මියගියාට පස්සෙ ඇයට හිටියේ එදාම උපන්න සිඟිති දරුපැටියෙකුත්, දුව පැන ඇවිදින වයසේ තවත් දරුපැටියෙකුත්. මේ දරු දෙන්නා වෙනුවෙන් මං ජීවත් වෙන්න ඕන කියලා හිතාගෙන ඇය එනවා, එද්දි පටාචාරාවට මහා ගංඟාවක් මධ්‍යයේදී ගඟෙන් එතෙර වෙන ටිකේදි, ස්වාමියා අහිමිවෙලා ඒ ස්වාමියා වෙනුවෙන් අඬන කඳුළු නවතින්නත් පෙර ඈට දරු පැටව් දෙන්නාම අහිමි වෙනවා. දරුවො දෙන්නාම අහිමි වුනා. සිඟිති දරු පැටියා උකුස්සෙක් ඩැහැගෙන ගියා. දුවපැන ඇවිදින වයසේ දරු පැටියා ගඟේ ගහගෙන ගියා. අම්මා කෙනෙකුට කොච්චර බලවත් වේදනාවක්ද පටාචාරා කොච්චර හදවතින් හූල්ල හූල්ලා හිතන්න ඇත්ද, ඇයි මාත් ගහගෙන ගියෙ නැත්තෙ. ඇයි මේ සැඩපහරේ දරු පැටියාත් එක්කම මාත් ගහගෙන ගියෙ නැත්තෙ. ඇයි මගේ ස්වාමිපුරුෂයාත් එක්ක මාත් මැරුන්

නැත්තෙ. ඇයට එහෙම හිතෙන්න ඇති. ඇයට දැන් මේ දුක වාවගන්න බෑ. දුක වාවාගන්න බැරිකොට සැනසීමක් හිතට ශාන්තියක් තමන් ආදරය කරන කෙනෙකුට තමන්ගේ දුක කියන්න ඇත්නම්. තමන්ගේ දුක අහගෙන ඉන්න පුලුවන් කෙනෙකුට දුක කියාගන්න ඇතිනම් ඒකත් හිතට සැනසිල්ලක්. පටාචාරාවට දුක කියන්න කියලා හිටියේ අම්මයි තාත්තයි සහෝදරයයි. අඬ අඬා දුක කියන අදහසින් ඇය යනවා. අනේ එහෙම යනකොට අකුණක් ගහලා ඒ අකුණ ගැහීම නිසා ගහක් කඩාගෙන වැටිලා පටාචාරාවගේ අම්මයි තාත්තයි සහෝදරයයි තුන්දෙනාම මැරිලා. හිතන්නකොට ව්‍යසනය. දැන් මේ කාන්තාවො පන්සියක් ඇවිල්ලා දරු දුක වෙනුවෙන් හදවත වාවාගන්න බැරිව බණ අහනවා. ඒ බණ අහනකොට බුදුරජාණන් වහන්සේගේ සුන්දර බණ පද කියලා දෙන්නේ පටාචාරා භික්ෂුණිය. හැබැයි පටාචාරා භික්ෂුණිය කියන්නෙ අර කාන්තාවන්ට සාපේක්ෂව ඊට වඩා ලොකු දුකක් උහුලපු කෙනෙක්. අවසානෙ දුක වාවගන්න බැරිව පිස්සියක් බවට පත්වෙලා බුදුරජාණන් වහන්සේ ළඟට ඈ දුවගෙන ආවෙ නිර්වස්ත්‍රයෙන්. පිස්සියක් බවට පත්වෙලා හිටපු කෙනෙක්. දුක උහුලගන්න බැරිව. හැබැයි දැන් ඈ බුදුසරණ ලබාගෙන බුදුසසුනේ සැනසුනු සිතක් ඇතිව අන් අයගේත් සිත් සනසනවා. ආශ්චර්යයි මේ බුද්ධ ශාසනය. තමන් තමන්ගේ ගිනි නිවාගෙන නිවාගන්නා ලද ගිනි ඇතිව තවත් බොහෝ දෙනෙකුගේ ගිනි නිවනා අසිරිය බලන්න මේ බුදු සසුනේ. පටාචාරා භික්ෂුණිය ළඟට ගිහිල්ලා පියවිප්පයෝගයෙන්, පුත්‍රවියෝගයෙන් දුකට පත්වෙච්චි පන්සීයක් අම්මලා බණ අහනවා. ඒ බණ අහගෙන ඉන්නකොට පටාචාරා භික්ෂුණිය කියන බණ පද වලට මේ පන්සිය දෙනාගේම හිත පැහැදුනා. හිත පැහැදිලා ඇලා පන්සිය දෙනාටම හිතක් උපදිනවා අනේ මේ විදව විදවා යන ජීවිතේ විදවිල්ලකින්ම කෙළවර වෙනවාට වඩා කොච්චර හොදයිද අපිටත් මේ උතුම් භික්ෂුණී සංඝයා අතරේ මහණ වෙලා ඒ උතුම් සීල සමාධි ප්‍රඥා දියුනු කරලා සැනසුනු සිතකින් ජීවිතේ කෙළවර කරන්න ඇතිනම්. අන්න එහෙම හිතුනා. ඒ සිතුවිල්ල හිතුනේ එයාලටත් පින් තිබුනු නිසා. පින් තිබුනු කෙනාට සත්පුරුෂ ඇසුර ලැබෙනකොට සත්පුරුෂ ඇසුරටම ඇදෙනවා. පින නැති කෙනා සත්පුරුෂයෙක් ළඟට ආවත් එයාට සත්පුරුෂයා එපා වෙනවා. ඒක තමයි පින් කරලා තිබීමේ භාග්‍යය. දැන් මේ පන්සිය දෙනාම පින් කරපු අයනෙ. පටාචාරා භික්ෂුණිය ළඟට පැමිණියාට පස්සෙ ඒ සත්පුරුෂ වූ ඒ කල්‍යාණමිත්‍ර වූ සම්බුදුරජාණන් වහන්සේගේ උතුම් බණ පද කියාදෙන භික්ෂුණියව අතහරින්න හිතෙන්නෙ නෑ. ඇලා ඒ වෙනුවට ගිහි ජීවිතය

අත්හැරියා. තමන් ආදරය කරපු ස්වාමිපුරුෂයො අත්හැරියා. ඥාතීන් අත්හැරියා, දේපල සම්පත් අත්හැරියා, ඔක්කොම ටික අත්හැරලා මේ බුද්ධ ශාසනේ පැවිදි වුනා. ඒ පැවිද්දට පත්වුනාට පස්සෙ මේ පැවිදි වෙච්ච පන්සීයක් තෙරණිවරුන්ට පටාචාරා භික්ෂුණිය මෙන්න මෙහෙම ධර්මයක් දේශනා කලා. යස්ස මග්ගං න ජානාති ආගතස්ස ගතස්සවා තංකුතො ආගතං සත්තං මමපුත්තොසිරෝදසි. යස්ස මග්ගං න ජානාති - ඔබලාගේ ඒ දරු පැටව් මොන ලෝකෙකින් ඔබලාගේ කුසට ආවාද කියලා ඔබලා දන්නෙ නෑ. ඊළඟට, ආගතස්ස ගතස්සවා - මැරුණාට පස්සෙ ඔබේ දරු පැටව් මොන ලෝකෙක ගියාද කියලා ඔබ දන්නෙත් නෑ. ආපු තැනක් දන්නෙත් නෑ. මැරිලා ගියපු තැනක් දන්නෙත් නෑ. තං කුතො ආගතං සත්තං මම පුත්තො සිරෝදසි - මේ ලෝකෙට ආවෙ කොහෙන්ද කියලා දන්නෙත් නැති නම්, මේ ලෝකෙන් යන්නෙ කොහේටද කියලා දන්නෙත් නැතිනම් එහෙම ආගිය මගක් දන්නේ නැතිව කොහේ ඉඳන් ආපු කෙනෙක් ගැනද ඔය මගේ පුතා මගේ පුතා කිය කියා හඬ හඬා ඒකම හිත හිත හූල්ල හූල්ල ඉන්නෙ කා වෙනුවෙන්ද? මග්ගං ච කුස්ස ජානාති ආගස්ස තස්ස ගතස්සවා - මේ ලෝකෙට ආපු හැටි දන්නෙත් නැති මේ ලෝකෙන් යන හැටි දන්නෙත් නැති මේ සංසාර ගමන ගැන යම් කෙනෙක් මැනැවින් දැනගත්තොත්, නනං සමණචොවෙසි ඒවං ධම්මා හි පාණිනො - යම් කෙනෙක් සංසාර ස්වභාවය දැනගත්තොත් එයා ශෝක කරන්නෑ. මේ සසරේ ස්වභාවය මෙයයි කියලා යම් කෙනෙක් වටහා ගත්තොත් එයා නම් ශෝක කරන්නෑ, ඒවං ධම්මා හි පාණිනො - මේක නොවෑ සත්වයන්ගේ ස්වභාවය කියලා එයා උපෙක්ෂාවට පත්වෙනවා. තමන්ගේ ජීවිතයට කරදර එනකොට සසර ස්වභාවය දන්නේ නැති කෙනාට කරන්න තියෙන්නෙ අඬන එකමයි, හූල්ලන එකමයි, සුසුම් හෙලන එකමයි. එයා ඊට වඩා දෙයක් දන්නෙ නෑ. එයාට හිතෙනවා පෞද්ගලිකව තමන් ගැන, මටමයි මේ කරදර. අයියෝ ඇයි මටම මෙහෙම කාලකණ්ණි කමක්. එහෙම හිත හිතා අඬනවා. ඇයි අපටම මේ ජාතියේ ප්‍රශ්න වෙන්නේ කියලා එයා අඬන්න ගන්නවා. එයා ඊට වඩා දෙයක් දන්නෑ. හැබැයි සාංසාරික ගමනක යන සත්වයා සසර දුකේ පටලැවිච්චි සත්වයා උරුම කරගත්තු දෙයක් මේ දුක කියලා කෙනෙක් දන්නවා නම් එයා මේ ප්‍රිය විප්පයෝගය ඉස්සරහා හඬන්නේ ශෝක කරන්නේ නෑ කිව්වා. ඇත්තටම පින්වතුනි නුවණ තියෙනවා නම් යම් කෙනෙකුට ඒ නුවණැත්තෝ ශෝක නොකරන්නේමය. නුවණැත්තා ජීවිතය ගැන නුවණින් දැකලා ශෝක නොකර ඉන්නවා. එහෙම නුවණින් ජීවිතය ගැන දැකලා ශෝක නොකර

ඉඳීමක් ගැන බුදුරජාණන් වහන්සේ හරි ලස්සන ජාතක කතාවකුත් වදාළානෙ. ඒ ජාතක කතාවේ නම අනනුසෝචිය ජාතකය, ඉතින් මුළු ජාතක පුවතම කියාදෙන්න නම් මේ වෙලාවේ කාලය ප්‍රමාණවත් නෑ. අපි සිදුවීම කෙටියෙන් ඔබට සිහිපත් කලොත් පින්වතුනි ඒක වුනේ අපේ මහාබෝසතාණන් වහන්සේ පෙර ඈත අතීතයේ ඍෂිවරයෙක් විදියට හිමාල වනයේ ඍෂි පැවිද්දෙන් වාසය කලා. ඔය ඍෂිතුමා ඍෂි පැවිද්දට පත්වෙනකොට තමන්ගේ ප්‍රිය භාර්‍යාවත් ඍෂි පැවිද්දෙන් පැවිදි වුනා. ඒ ප්‍රිය භාර්යාව හරී ලස්සනයි. දෙවඟනක් වගේ කියනවා, මේ මිහිපිට දෙවඟනක් වගේ කියනවා ඇගේ ලස්සන. ඇගේ නම සම්මිල්ලහාසිනී. ඔය සම්මිල්ලහාසිනී කියන තාපසතුමියයි බෝධිසත්ව තාපසතුමයි හිමාල පර්වතයේ ආරාමයක බණ භාවනා කරගෙන වාසය කලා. ඔහොම වාසය කරද්දි පින්වතුනේ අර සම්මිල්ලහාසිනී කියන තාපසතුමියට ලේ අතීසාරය කියන ලෙඩේ හැදුනා. ලේ අතීසාරයට ඉතින් පුලුපුලුවන් විදියට බෙහෙත් කලා, හිමාල වනයෙන් හොයාගත්තු නොයෙක් නොයෙක් ඖෂධ. නමුත් සුවයක් වුන් නෑ, ලෙඩේ එන්න එන්නම වැඩිවෙනවා. අන්තිමේ මේ ඍෂිතුමා කල්පනා කලා මේ සහෝදර ඍෂිවරිය, සහෝදර තාපසිය මෙහෙම ගියොත් එහෙම බෙහෙත් නොලැබීම නිසා කළුරිය කරාවි, ඒ නිසා මැයට ප්‍රතිකාරයක් කරගන්න ඕන කියලා වෙදෙක් හමුවීමේ අදහසින් ගම්මානයට ඒ තාපසතුමාත් තාපසතුමියත් පැමිණුනා. ඉතින් බොහොම දුරබැහැර ගමනක් ගෙවාගෙන එන්න ඕන, හිමාල වනාන්තරයේ ඉඳලා ඔන්න ගම්මානයට සමීප වුනා. ඒ සමීප වෙච්චි වෙලාව සාමාන්‍යයෙන් පාන්දරජාමය. පාන්දර වෙනකොට මේ දෙන්නා ගම්මානයට සමීප වෙද්දී අර තාපසතුමියට දුර ගමනක් ගෙවාගෙන ආපු නිසා හොඳටෝම තෙහෙට්ටුයි, අම්බලමක් දැක්කා. තාපසතුමිය කියනවා, සම්මිල්ලහාසිනී තාපසතුමිය කියනවා තාපසතුමනි, මට හොඳටම මහන්සියි. මම අර අම්බලමේ පොඩ්ඩක් හාන්සි වෙන්නම්. ඔබතුමා මටත් එක්ක සෑහෙන්න උදේට පිණ්ඩපාතෙ චුට්ටක් හොයාගෙන එන්න කිව්වා. ඉතින් ඒ බෝසත් තාපස තුමා තාපසතුමියව අම්බලමේ නවත්තලා පිණ්ඩපාතෙ වැඩම කලා. අර සම්මිල්ලහාසිනී තාපසිය හොඳටම වෙහෙසිලා හිටියේ, ඈ අම්බලමේ තිබුනු බංකුවක හාන්සි වුනා. ඒ තමයි ඇගේ අවසාන හාන්සිවීම. එහෙම්මම ඇය කළුරිය කලා. උදේම වැඩට යන්න එකතු වෙච්චි මිනිස්සු මේ අම්බලමට ගොඩ වෙලා. අම්බලමට ගොඩ වෙද්දි මනුස්සයන්ට පේනවා දෙවඟනක් වගේ ලස්සන ස්ත්‍රී රූපයක්. මේ අම්බලමේ බංකුව උඩ හාන්සි වෙලා ඉන්නවා. සාමාන්‍යයෙන් ලස්සන කෙනෙක් දැක්කම

මිනිස්සු හරි ආසයිනෙ. රූපය ලස්සන කෙනෙක් දැක්කොත් මිනිස්සු හරි ආසයි. ඒකනෙ රූපය ලස්සන ඇයන්ගේ රූප කැලැන්ඩර් වලට ගහගෙන තමන්ගේ ගෙදර තියාගන්නෙ. රූපය ලස්සන අයට මිනිස්සු ආසයි. මිනිස්සු එකා දෙන්නා මේ අම්බලමට එකතු වෙනවා. එකතු වෙන එකතු වෙන මනුස්සයා අර සම්මිල්ලහාසිනී තාපසිය දකිනකොට වසඟ වෙනවා. වසඟ වෙලා ආසාවේ බලාගෙන ඉන්නවා, දැන් මේ හාන්සිවෙලා ඉන්න කාන්තාව ඇස් ඇරපුවාම අපි කතා කරන්න ඕන. මේ ලස්සන කාන්තාවත් එක්ක අනේ වචනයක් කතා කරගන්න ඇත්නම්, දැන් එහෙම හිතාගෙන මිනිස්සු එකතු වුනා. එකතු වෙලා මිනිස්සු බලන් ඉන්නවා, බලන් ඉන්නවා දෑස් අරින් නෑ. ඔතන හිටපු එක පුරුෂයෙක් ළංවෙලා මේ තාපසතුමිය හාන්සිවෙලා ඉන්න තැන නාසය ළඟට ඇඟිල්ල තියලා බැලුවා හුස්ම ගන්නවද කියලා. අනේ එතකොටයි තේරුණේ ඇ මියගිහිල්ලා. අර බලාගෙන හිටපු හැමදෙනාටම ඇඬුම් ආවා. අයියෝ මේ දෙවඟනක් වගේ ලස්සන ස්ත්‍රියක් ඉඳලා මේ මනුස්ස ලෝකෙ. ඇගේ රූපය අපිට දැකගන්න ලැබුනා ඒත් පණ පිටින් ඇව දකින්න බැරිව ගියා. ඇත් එක්ක වචනයක් කතා කරගන්න බැරිව ගියා කියලා මේ එදාම දැක්ක කෙනා වෙනුවෙන් මිනිස්සු අඬන්න පටන් ගත්තා. තමන් ආස කරන රූප අහිමි වෙනකොට මිනිස්සු ශෝක වෙනවා. තමන් ආස කරන හඬවල් අහිමි වෙනකොට ශෝක කරනවා. තමන් ආස කරන ගඳ සුවඳ අහිමි වෙනකොට ශෝක කරනවා. තමන් ආස කරන රස අහිමි වෙද්දි ශෝක කරනවා. තමන් ආස කරන පහස අහිමි වෙද්දි මිනිස්සු ශෝක කරනවා. ඊට වඩා දෙයක් සාමාන්‍ය මනුස්සයා දන් නෑ. අඬන්න පටන් ගත්තා එක දිගට. දැන් මෙතන මේ මහා හඬින් පිරිසක් අම්බලමේ අඬනවා. පිණ්ඩපාතෙ වැඩපු තාපස තුමා පිණ්ඩපාතෙ එකතු කරගෙන එනකොට තාපසතුමාට ඇහෙනවා මිනිස්සු විලාප තිය තියා අඬනවා. ඇඬුමෙන්ම තේරුම් ගත්තා එහෙනම් සම්මිල්ලහාසිනී තාපසතුමිය මෙලොව හැරගිහිල්ලා. තාපසතුමා කල්පනා කලා මගෙන් අහලා නෙවෙයි ආවේ, මගෙන් අහලාම නෙවෙයි ගියෙත්. මියපරලොව ගියපු කෙනෙක් වෙනුවෙන් කුමට නම් ශෝක කරන්නද. අන්න ලෝක ස්වභාවය දැන සිටීම. අපි එකට ජීවත් වෙනකොට පින්වතුනේ බුදු බණ පදයක් ඇහුවේ නැති නම්, බුදු බණක් ඇහුවේ නැති නම් අපි කවුරුත් කල්පනා කරන්නැති වේවි අපිත් එක්ක මේ එකට ඉන්න අය මැරිලා යනවා කියලා. අපි දැන් හිතනවා, අපිට කල්පනාවට එනවා, අපි මේ එකට හිටියාට අපිට මැරිලා යන්න වෙනවා කියලා. ඇයි බණ පදයක් ඇසූ නිසා. බණ පදයක් අහලා තිබ්බෙ

නැත්නම් ඔහේ ජීවත් වෙලා ඒ ඒ වෙලාවට ප්‍රිය අය අහිමි වෙනකොට උහුල ගන්න බැරිව අඬලා වැළපිලා ඒක අමතක වුනාට පස්සෙ අපි ආයෙ ඉදියි. ඔහොම තමයි සංසාර ගමනක් අපි ආවෙ. දීර්ඝ සංසාර ගමනක ඔය ක්‍රමයටමයි ආවෙ. මහා බෝධිසත්වයො පිණ්ඩපාතෙ කරගෙන ඇවිල්ලා එතනම ඉඳලා පිණ්ඩපාතෙ වැළඳුවා. අඬන මිනිස්සු බැලුවා අපි මේ මහා කණගාටුවෙන් අඬනවා, මෙන්න මෙතනම එක්කෙනෙක් ඉඳගෙන ආහාර අනුභව කරනවා. මොහු කවරෙක්ද, මොහුත් දැක්කෙ මුල්ම වතාවටයි. මිනිස්සු කතාකලා, තාපසය ඔහේ කව්ද. කිව්වා පින්වතුනේ මම හිමාල පර්වතයේ හිටියේ. මෙන්න මේ තාපසිත් එක්ක. මේ තාපසතුමිය ලේ අතීසාරයෙන් හොඳටම අසාධ්‍ය වුනා. ඇයට බෙහෙතක් කරගන්න අදහසිනුයි අපි ගමට ආවෙ. එතකොට මිනිස්සු කියනවා මේ තාපසිය ඔබේ කවුද? මේ මගේ සහෝදර තාපසතුමිය. පැවිදි වෙන්න පෙර මගේ ගිහි කල බිරිඳ කිව්වා. මිනිස්සුන්ට අදහගන්න බෑ. මිනිස්සු අහනවා, ඈ තාපසතුමනි ඔබ දෙදෙනාගේ යම් අමනාපයක් තිබුනාද. ඔබේ ගිහි කල ප්‍රිය බිරිඳ, ඔබේ පැවිදි සහෝදර තාපසිය මියපරලොව ගියා කියලා ඔබේ ඇස් තෙත් වෙලා නෑ. ඔබේ ඇහේ කඳුලක් නෑ, ඔබ තරහෙන්ද හිටියෙ කියලා ඇහුවා. එතකොට මහබෝධිසත්වයො මිනිස්සුන්ට කියාදෙනවා මගේ මේ ප්‍රිය සම්මිල්ලහාසිනී තාපසිය ඇය මෙලොව අත්හැරලා දාලා වෙනත් ලොවකට ගිහිල්ලා. ඈ දැන් වෙනත් ලෝකෙක ඇති. වෙනත් ලෝකෙක ගියපු ඈ ගැන මේ ලෝකෙ ඉන්න මං අඬලා ඇති ඵලය මොකක්ද. ඈ වෙනුවෙන් මා හැඬුවා වැළපුවා කියා යළි ඈ පැමිණෙන්නේ නැත. ඇය වෙනුවෙන් මා හැඬුවා කියා ඇයට සැලසෙන යහපතක් ද නැත. ඉතින් ඇඬීමේ ඇති ඵලය මොකක්ද. අපි ඇඬුවා කියලා අපි මියපරලොව ගියපු කෙනෙකුට ඒකෙන් සැලසෙන සෙතකුත් නෑ. අපි ඇඬුවා කියලා අපටත් ඒකෙන් සැලසෙන සෙතක් නෑ, මොකක්ද කියලා අහනවා අඬන ඇඬිල්ලේ තේරුම. අඬනවා නම් ඇඬිය යුත්තේ මැරිච්ච අය වෙනුවෙන් නොවේ කියනවා. පින්වතුනි අඬනවා නම් අඬන්න ඔබ වෙනුවෙන්. බලන්න පින්වතුනි බෝධිසත්වයො කාලෙ අපේ ශාස්තෘන් වහන්සේට තිබුනු ප්‍රඥාව. මිනිස්සුන්ට කියනවා අඬනවා නම් අඬාපල්ලා උඹලා වෙනුවෙන්. මොකද මේ එකට ජීවත් වෙන ප්‍රිය ඥාතියො මැරෙනවා වගේ තමන් කරාත් මරණය පැමිණෙන මොහොතක් එනවා. එක මොහොතක්වත් අපි නැවතිලා නෑ. මරණය කරාම ඇදී ඇදී ඉන්නවා. හිටගෙන ඉන්නකොටත් වයස ගෙවෙනවා. වාඩිවෙලා හිටියත් වයස ගෙවෙනවා. සැතපිලා හිටියත් වයස ගෙවෙනවා. මොහොතක්,

මොහොතක් පාසා වයස ගෙවි ගෙවී මරණය කරා ඇදෙනවා. එහෙම මරණය කරා ඇදි ඇදී ඉන්නවා කියලා දැකලා අඬනවා නම් ඒ වෙනුවෙන් අඬාපල්ලා කිව්වා. ඉතින් එහෙම බණ පද කියා දීලා තමයි එදා මනුස්සයාට තේරුමක් කරලා දුන්නේ ඇයි මේ නොහඬා ඉන්නෙ කියන කාරණය. නොහඬා ඉන්නෙ යමෙක් මොන බලයෙන්ද. ජීවිතය ගැන තියෙන වැටහීම නම් වූ බලයෙන්. ඒ නිසා පින්වතුනි මේ ජීවිතයේ තියෙනවා ආකාර දෙකක්. ජීවිතය විඳවනවා කියලා එකක් තියෙනවා. ජීවිතය අවබෝධ කරනවා කියලා එකක් තියෙනවා. සංසාර ගමනක යන තාක් අපි කරන්නෙ ජීවිතය විඳවන එක. විඳවිල්ලම විතරයි. මොන ජාතියේ උපන්නත් විඳවනවාමයි. විඳව විඳවා තමයි දීර්ඝ සංසාර ගමනක් අපි ආවෙ. බුදු කෙනෙකුගේ ශාසනයක් මුණ ගැහිච්චි මොහොතක අපිට අවස්ථාව තියෙනවා විඳවන ජීවිතය අවබෝධ කරන්න. ඉතින් ඒකට නුවණ තියෙන්නෙ ඕන. ඒකට නුවණ උපද්දගැනීම පිණිසයි බුදු කෙනෙක් මේ ලෝකයට ධර්මය දේශනා කළේ. ආයාචිතො තථා ගච්ඡෙ අනන්නුංඥාතො ඉදො ගතො - ආයාචනා නොකරමයි මෙලොවට ආවේ. ඒ දරු පැටව් - මේ අම්මා වරුන්ටනේ මේ කියන්නෙ. අර පන්සීයක් අම්මා වරු දැන් ඇලා තෙරණිවරු. ඒ තෙරණිවරුන්ටයි මේ කියන්නෙ. ඔබලාගේ කුසවල් වලට ඒ දරු පැටව් ආවෙ ආයාචනා නොකරද්දීමයි. දරුවො පතනවා දෙමව්පියො, අම්මලා දරුවො පතනවා. නමුත් අපි නිකං කලින් බලලා කවුද අපේ කුසට එන කෙනා, ආ, අහවලා හොඳයි එයා එන්න කියලා අපි ආයාචනා කරන් නැනෙ. ආයාචනා නොකරමයි මව් කුසකට ආවෙ. අනුමත නොකරද්දීමයි මෙලොවින් යන්නෙත්. සාමාන්‍යයෙන් දරුවො, ගුණවන්ත දරුවො ගෙදරින් එළියට බහිනකොට අම්මලාට වැඳලා යනවා. තාත්තලාට වැඳලා යනවා. අපි අහවල් ගමන යනවා, අසවල් තැනට ගිහිල්ලා අසවල් වෙලාවට එන්නම්, එහෙම කියලා යනවා. අවසරය අරගෙන, ආශිර්වාදය අරගෙන යනවා. මරණයට, මරණයට එහෙම එකක් නෑ. අනුමත නොකරද්දීම අවසරයක් නොගෙනම ඒ අය ගියා කියනවා. පුතෝච් නූන ආගන්ත්වා වසිත්වා කතිපාකහං - කොහෙහරි ලෝකෙක ඉඳලා මෙහෙ ඇවිදිල්ලා ටික දවසක් ගෙවලා වෙන ලෝකෙකට යනවා. හැමෝගෙම ජීවිත කතන්දරේ. කොහේහරි ඉඳලා මේ මනුස්ස ලෝකෙට කඩා පාත්වුනා අපි. මේකෙ ඉඳලා ඉතින් අපේ ආයුෂ ඉවර වුනාට පස්සෙ අපි කොහේහරි යයි. ආයෙමත් එතනින් චුත වෙලා තව ලෝකෙකට යනවා. මෙහෙම තමයි සසර හැදෙන්නෙ. කොහෙහරි ලෝකෙකින් චුත වෙලා මෙහෙට ආවා. මෙහෙ මොනවාහරි කර කර ඉඳලා මෙහෙන් චුත වුනාම වෙන ලෝකෙකට යනවා. ඒ

යන ලෝකෙ මොනවාහරි කර කර ඉඳලා එතනින් චුත වුනාම තව ලෝකෙකට යනවා. මේකෙ කෙළවරක් නෑ. මේකෙ ගමන් කරලා නම් කෙළවරක් නෑ. මැරුණ එක්කෙනා මෙහිදී මිනිස් ස්වරූපයෙන් සැරිසරලා යන්න ගියා. ආවෙ යම් ආකාරයකින්ද, ඒ ආකාරයෙන්ම යන්න ගියා. ඉතින් මේ ගැන අඬන්න දෙයක් තියෙනවාද. අන්න එහෙම ඇහුවා. කරුණ මෙසේ තිබියදී මේ ගැන අඬන්න දෙයක් තියෙනවාද. කියලා පටාචාරා අර්හත් තෙරණින් වහන්සේ අර පන්සීයක් භික්ෂුණීන් වහන්සේලාගෙන් අහනවා. ඇලාට මේ කියපු කාරණය තේරුනා. තේරුනාට පස්සෙ ඇලා කලේ මේ සිත සෝක නිවාලන දහම් පදය අහගෙන ගිහිල්ලා වීර්යය වැඩුවා. වීර්යය වැඩුවේ කුමක් පිණිස ද? මේ ලෝකෙට ඇවිල්ලා මේ ලෝකෙ ආයුෂ ගෙවලා චුත වුනාට පස්සෙ වෙනත් ලෝකෙකට යන එක නවත්වගන්න. මේ ලෝකයට ඇවිල්ලා මේ ලෝකයේ විඳව විඳවා ඉඳලා මේකෙන් මලාට පස්සෙ වෙනත් ලෝකෙකට යන එක නවත්වගන්න වීර්යය කලා. මේ ඉපදිච්චි ලෝකෙ දුක් කඳ දිහා බලාගෙන යලි මෙහෙම දුක් කඳක් එපා කියලා වීර්යය කලා. ඒ වීර්යය කරනකොට ඇලාට පින තිබුනා, ධර්මය අවබෝධ කලා. ධර්මය අවබෝධ කලාට පස්සෙ මේ පන්සීයක් භික්ෂුණීන් වහන්සේලා වෙන වෙනම ඇවිල්ලා අපේ පටාචාරා භික්ෂුණීන් වහන්සේ ළඟ තමන් වහන්සේලාගේ සැනසීම ප්‍රකාශ කලා. ඉතින් ඒ ගැන මෙන්න මේ විදියට තමයි ථෙරීගාථා වල සඳහන් වෙන්න. අබ්බහී වත මෙ සල්ලං දුද්දසං හදය නිස්සිතං යාමෙ සෝක පරේතාය පුත්තසෝකං ව්‍යාපනොති - මං ජීවියේ දරු දුක නිසා හටගත්තු මහා වේදනාවකින්. ඒත් මේ උතුම් භික්ෂුණිය මගේ හදවතේ තිබුනු දකින්න අසීරු ඒ දරු දුක නැමැති ශෝක හුල උදුරා දැම්මා. දරු දුක කියන මේ ශෝක හුල පපුව විනිවිද ඇනෙන එකක්. ඒක හිතේ ඇනෙන හුලක්. අදෘශ්‍ය හිතේ මේ හුල ඇනුනාට පස්සෙ සාමාන්‍ය මනුස්සයො විඳවනවා ඇරෙන්න කොහොම අඳුනගන්නද. හිත තියෙන තැනකුත් හොයාගන්න බැරි මනුස්සයා අදෘශ්‍ය හිතේ භයානක දරුණු හුලක් ඇනුණොත් විඳවනවා ඇරෙන්න, හූල්ලනවා ඇරෙන්න, අඬනවා ඇරෙන්න ඒ මනුස්සයා මොනවා කරන්නද. හැබැයි මේ ජීවිත වල මේ හිත් වල ඇනෙන සියලු හුල් උදුරා දැමූ තුන්ලෝකාග්‍ර ශාස්තෘන් වහන්සේ මේ ලෝකෙට පහළ වෙච්චි අසහාය ශල්‍ය වෛද්‍යවරයා අපගේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය ඇහුවොත් මේ සිතක ඇනෙන සියලු හුල් උදුරලා දාන්න පුලුවන්. රාග හුල, ද්වේෂ හුල, මෝහ හුල, ශෝක හුල, පරිදේව හුල මේ හැම හුලක්ම උදුරලා දාන්න පුලුවන්. ඉතින් බුදුරජාණන් වහන්සේගේ ධර්මය නිසා තමයි ඒ

භික්ෂුණීන් වහන්සේලා එහෙම කරගත්තෙ. සාජ්ජ අබ්බුල්හ සල්ලාලං නිච්ඡා තා පරිනිබ්බුතා - අද මං ඉන්නෙ ඒ ශෝක හුල උදුරලා දාලා. නිවිලා ගීහින්. තණ්හාව නැති කරගෙන. බුද්ධං ධම්මං ච සංඝං ච උපේති සරණං මුණිං - මං බුදුසම්දාණන්, සිරිසදහම්, ආර්ය සඟරුවන යන මේ තිසරණයටම පැමිණුනා. සරණට පත්වුනා. ඒ සරණින් තමයි පින්වතුනේ දුක් ගින්නෙන් නිදහස් වෙන්න තියෙන්නෙ. අපි අහලා තියෙනවා නේද, ඒතං කො සරණං කේමං - මේ තෙරුවන් සරණ තමයි ලෝකයේ ඇති බිය රහිත වූ සරණ. ඒතං සරණ මුත්තමං - මේ තෙරුවන් සරණ තමයි ලෝකයේ ඇති උතුම්ම සරණ. ඒතං සරණ මාගම්ම සබ්බ දුක්ඛා පමුච්ඡති - මේ සරණ තුළට පැමිණිලා තමයි මේ ජීවිතයක විඳවන හැම දුක් ගින්නකින්ම නිදහස් වෙන්න තියෙන්නෙ. දුකින් නිදහස් වෙනවා නම් ඇත්තේ එකම එක සරණයි. ඒ සරණ තෙරුවන් සරණයි. ඒ නිසා අපි මේ මනුස්ස ජීවිතේ පින්වතුනි නොයෙක් දුක් ගැහැට මැද, අනපේක්ෂිත සිදුවීම් මැද ගෙවන්න තියෙන මේ මනුස්ස ජීවිතේ අපිට ලැබිච්චි මහා භාග්‍යය තෙරුවන් සරණ හමුවීම. තෙරුවන් සරණ හමුවුනා අපිට. ඒ තෙරුවන් ගුණ වශයෙන් කියාදෙන කල්‍යාණ මිත්‍රයො හමුවුනා අපිට. ඒ තෙරුවනේ සරණට අපි පැමිණුනොත් ඒ තෙරුවන් සරණ තමයි යම් දවසක අපි මේ සංසාර ගමනින් විඳවන හැම දුකකින්ම නිදහස් කරවන්නෙ. ඒ නිසා මේ සංසාර ගමනක සැරිසරාගෙන යද්දි මේ තෙරුවන් සරණ මුණගැහුනු ජීවිතේ පුලුවන් තරම් ඒ සරණ තමන්ගේ ජීවිතය ශක්තිමත් කරගන්න මහන්සි ගන්න. එහෙම ශක්තිමත් කරගත්තොත් සසර ගමනේ බිය නැසී යාවි. මොකද බිය නැසෙන සරණ තෙරුවන් සරණ පමණයි. මේ සංසාර ගමනේ තමන්ගේ ජීවිතේ උත්තමභාවයට ශ්‍රේෂ්ට භාවයට පත්වේවි. මොකද තෙරුවන් සරණ විතරයි ජීවිතයක් උතුම් භාවයට පත්කරවන සරණ. තෙරුවන් සරණට හරියට පැමිණුනොත් මේ සංසාර ගමනේ දුක් ගිනි සියල්ල අවසන් වී යාවි. මොකද තෙරුවන් සරණ පමණයි සියලු දුක් ගිනි නසනා සරණ. ඒ නිසා ඔබට ඒ තෙරුවන් සරණේ ශක්තිමත්ව පිහිටන්න වාසනාව ලැබෙත්වා. තෙරුවන් සරණේ ශක්තිමත්ව පිහිටා තමන්ගේ ජීවිත තුළ තිබුනු සියලු දුක් ගිනි නිවාගෙන සැනසිල්ලට පත්වෙච්චි අපගේ පටාචාරා රහත් තෙරණින් වහන්සේට නමස්කාර කරමින් ඒ උතුම් පන්සීයක් වූ රහත් තෙරණින් වහන්සේලාට නමස්කාර කරමින් අපි අධිෂ්ටානයක් ඇති කරගනිමු පින්වතුනි, අපිටත් මේ තෙරුවන් සරණ මුණගැහිච්චි දුර්ලභ මනුස්ස ජීවිතේ සුවසේ දහම්

මග දියුණු කරගෙන රහතන් වහන්සේලා සැනසුනු රහත් තෙරණින් වහන්සේලා සැනසුනු අමා නිවනේ සැනසෙන්න ලැබේවා, සාදු සාදු සාදු !!!

අපි විසින් රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අපි අනුමෝදන් කරමු පළමු කොට සියලු දෙවිවරුන්ට. සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරුන්, සෙන්පති දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවියෝ සතුටින් පින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන් වෙන දෙවියෝ දිව්‍ය යස ඉසුරින් දිව්‍ය ආශ්වයර්‍යයෙන් වැඩෙත්වා. ඒ සියලූ දෙවියන්ගේ රැකවරණය උපකාරය අප හැමදෙනාටම දෙවියෝ නොඅඩුවම සලසා දෙත්වා. දෙවියෝද සංසාර දුකින් අතමිදේවා. සාදු සාදු සාදු!!! රැස් කල සියලු පුණ්‍ය ධර්මයන් මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව නිරෝගීව දීර්ඝායුෂ ලබත්වා. මේ ගෞතම ශාසනය තුල උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අද ධර්ම දානය සිදු කරන ඒ පින්වතුන්ලාගේ ප්‍රධාන අරමුණ වශයෙන් සඳහන් කොට ඇති පරිදි 2021 ජූනි මාසෙ 22 වන දින 78 වන ජන්මදිනය සැමරූ පින්වත් එන්.ඩබ්ලිව්.එම්. යසෝමැණිකේ මෑණියන්ට මේ සියලු පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදය, උතුම් බුද්ධ රත්නයේ ආශිර්වාදය, ධර්මරත්නයේ ආශිර්වාදය, සංඝරත්නයේ ආශිර්වාදය, පින් අනුමෝදන් වෙලා සතුටු වෙන සියලු දෙවියන්ගේ ආශිර්වාදය නොඅඩුවම සැලසෙත්වා. මෑණියන්ට නිදුක් නිරෝගී සුවපත් භාවය දීර්ඝායුෂ සම්පත්තිය ලැබෙත්වා. උතුම් කල්‍යාණමිත්‍ර ඇසුරේ සුවසේ ජීවිතයට පින් පුරාගෙන ගුණ ධර්ම දියුණු කරගන්න ලැබෙත්වා. මේ ගෞතම ශාසනය තුළ උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න ඒ මෑණියන්ට මේ සියලු පින් හේතු වාසනා වෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. එන්.ඩබ්ලිව්.එම්. යසෝමැණිකේ මෑණියන්ගේ නමින් මියපරලොව යන්න යෙදුනු එන්.ඩබ්ලිව්.එම්. කිරිවත්තේ බොරගල්ල පියාණන්ට, ටී.එම්. ටිකිරිමැණිකේ මෑණියන්ට, ඒ.ඩබ්ලිව්.එම්. ජයසූරිය ස්වාමිපුරුෂයාට මේ සියලූම පුණ්‍ය ධර්මයන් අනුමෝදන් වෙත්වා. ශ්‍රී ලංකා ගුවන් හමුදාවේ සේවය කරමින් සිටියදී 1996 දී රුදුරු ත්‍රස්තවාදී ප්‍රහාරයකින් මියපරලොව යන්න යෙදුනා වූ පින්වත් ඒ.ඩබ්ලිව්.එම්. දයාරත්න පුතණුවන්ට මේ සියලූම පින් අනුමෝදන් වෙත්වා. තමන්ගේ නමින් මියපරලොව ගියා වූ සියලු ඥාති හිතමිත්‍රාදීන්ටත් විශේෂයෙන් රට දැය වෙනුවෙන් දිවි පිදූ සියලූම රණවිරුවන්ටත් මේ සියලු පින් අනුමෝදන් වෙලා ඒ හැමදෙනෙක්ගේම

පරලොව ජීවිතයේ සැපයෙන් සැපයටම පත්වෙත්වා. මේ දුක් සහිත වූ සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙන්න ලැබෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනාව සිදු කරන්න. විශේෂයෙන් කොරෝනා වෛරසය හේතුවෙන් රෝගාතුරව සිටින ලංකාවාසී ලෝක වාසී හැමදෙනාට නිදුක් නිරෝගී සුව සැලසේවා කියන ප්‍රාර්ථනාව අපි එකතු කරමු. අද දායකත්වයන් දරනු ලබන්නේ රාගල මන්ත්‍රීතැන්න බේකරියවත්ත නිවසේ පදිංචි පින්වත් එන්.ඩබ්ලිව්.එම්. යසෝමැණිකේ මෑණියන් ඇතුළු ඒ පවුලේ දූදරු පිරිස විසින්. දරුවන් වන කුසුම්, කරු, ඉන්ද්‍රාණි, ජයන්ති සහ චමිලා යන ඒ දරුවන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. පවුලේ හැමදෙනාටත් මේ සියලු පින් අනුමෝදන් වෙලා ඒ පින්වතුන්ලා කරන කියන රැකී රක්ෂා ආදී සියලු කටයුතු සර්වප්‍රකාරයෙන් සාර්ථක වෙත්වා. දරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදියත් සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා. කිසී කරදරයකින් බාධාවකින් තොරව සුවසේ ජීවිත ගත කරන්න ලැබෙත්වා. තව දුරටත් සුවසේ ජීවිතයට පින් කරගන්න අවකාශ සැලසෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්මදාන සාමාජික පින්වතුන්ලාටත් ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සැමදෙනාටත් සුපින්වත් ඔබ සැම සියලු දෙනාටත් සුවසේ පින් රැස් කරගෙන සුවසේම දහම් මග දියුණු කරගෙන මේ ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=f5HglaKihF0

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, මහා කාරුණික භාග්‍යවත් අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ උතුම් බුදු සරණ ලබාගෙන මේ

බුද්ධ ශාසනය තුළ අමා නිවනින් සැනසිච්චි ඒ මහා පින්වන්ත රහත් තෙරණින් වහන්සේලා ගැනයි අපි මේ වැඩසටහන් මාලාවේදී ඉගෙන ගන්නෙ. බුදුරජාණන් වහන්සේ නමකගේ උපත ගැන ධර්මයේ සඳහන් වෙනවා වචනයක්, සුඛො බුද්ධානං උප්පාදො - බුදු කෙනෙකුගේ උපත නම් ලෝකයට සැපයකි කියලා. ඇත්තෙන්ම පින්වතුනි බුදු කෙනෙකුගේ උපත කියන එක ගැන අපි කල්පනා කරනකොටයි අපිට තේරෙන්නෙ ඒ බුදුරජාණන් වහන්සේ මේ ලෝකයට පහල වෙච්චි නිසා කොච්චර නම් රහතන් වහන්සේලා බිහිවුනාද. සසර දුක් සියල්ල නැසූ සදාතනික සැනසීමකට පත්වෙච්චි රහතන් වහන්සේලා, රහත් තෙරණින් වහන්සේලා මෙච්චරක් බිහිවුනා කියලා කියන්න බෑ. මාර්ගඵල ලාභී උත්තමයො මෙච්චරක් බිහි වුනා කියලා කියන්න බෑ. ඒ තරම් සැපයට පත්වුනා. සුගති ඊ්‍යකවරණ සලසාගත්ත පින්වන්ත පිරිස මෙපමණයි කියලා කියන්න බෑ. සැපයට පත්වුනා. බුදු කෙනෙකුගේ උපත නම් ඒකාන්තයෙන් ලෝකයට සැපයක්. අද ඉගෙන ගන්න ධර්මයෙනුත් අපිට ජේනවා බුදු කෙනෙකුගේ උපත නම් ලෝකයට සැපයක්මයි කියලා. අද මේ ධර්ම දේශනාවට දායකත්වයන් එකතු කරන්නෙ මාලබේ මහමෙව්නාව භාවනා අසපුවට සම්බන්ධ පින්වන්ත උපාසිකාවක් විසින්. ප්‍රධාන අරමුණක් හිතේ තියාගෙනයි මේ ධර්ම දානය සිද්ධ කරන්නෙ. ඒ අරමුණ තමයි තමන්ට ශ්‍රී සද්ධර්මයේ පහස ලැබී ධර්මයේ හැසිරෙන්න කල්‍යාණමිත්‍ර ආශ්‍රය මුණගැසී අවුරුදු විස්සකට ආසන්න කාලයක් ගතවීම නිමිති කරගෙන. ජූනි මාසෙ 20 වෙනි දිනට තමයි අපගේ ගුරුදේවොත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේගේ උතුම් දහම් වැඩපිළිවෙලට සම්බන්ධවෙලා ගෞතම බුද්ධ ශාසනයේ පිළිසරණ ලබන උපාසිකාවක් බවට පත්වෙන්න අවකාශ සැලසිලා තියෙන්නෙ. ඉතින් ඒ දහම් ඇසුරට සම්බන්ධ වෙලා අවුරුදු විස්සක් සපිරීම නිමිති කරගෙන අද මේ උතුම් ධර්ම දානය එතුමිය විසින් සිදු කරනු ලබනවා. අද ධර්ම දේශනාවේදී අපි ඉගෙන ගන්නේ බුදුරජාණන් වහන්සේගේ පහළ වීම නිසා සම්බුදුරජාණන් වහන්සේ නමකගේ උපත නිසා තමන්ගේ ජීවිතය සම්පූර්ණයෙන්ම සැපයට පත්වෙච්චි පින්වන්ත ස්ත්‍රියක් ගැන. ඒ ස්ත්‍රියගේ නම වාසෙට්ඨී, වාසෙට්ඨී කියලා කියන්නෙ සංසාර ගමනේ පින් පුරාගෙන ආපු තැනැත්තියක්. ගෞතම අපගේ අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළ වෙන කාලයේ ඈ උපන්නා විසාලාවේ. විසාලාවේ ඉපදිලා තරුණ වයසට පත්වෙනකොට දෙමව්පියෝ ඇයව සුදුසු පවුලකට විවාහ කරලා දුන්නා. ඇගේ විවාහ ජීවිතය හරි සුන්දරයි. ස්වාමිපුරුෂයාත් එක්ක හරී සතුටින්

ඈ විවාහ ජීවිතය ගත කලා. විවාහ ජීවිතයට එළඹිලා ටික දවසක් ගතවෙනකොට ඈ ගර්භනියක් බවට පත්වුනා. ඇගේ කුසේ පිළිසිඳගත්ත දරු පැටියා දස මාසයක් නව මාසයක් ඇවෑමෙන් බිහි වුනා. ඇගේ කුළුඳුල් දරුවා, පළවෙනි දරු පැටියා. සාමාන්‍යයෙන් අම්මා කෙනෙකුට පළවෙනියෙන් හම්බෙන දරු පැටියාට ඒ අම්මා ගොඩාක් ආදරෙයි. ඒ අම්මා ඒ දරුවාගේ රැකවරණය ගැන ගොඩාක් හිතනවා. තමන්ගේ පළවෙනිම දුව, තමන්ගේ පළවෙනිම පුතා නිසා. විශේෂයෙන් ඇය ඒ දරු පැටියා ගැන හිතනවා. ඉතින් වාසෙට්ඨීත් එහෙම තමයි. තමන්ගේ පළවෙනි දරුපැටියා ටික ටික වැඩෙනවා බලාගෙන ඈ සන්තෝෂ වෙනවා. ඒ දරුපැටියාගේ හුරතල් බල බලා දවසම ගතවෙනවා. දරුවා එක්ක කාලය ගතවෙනවා ඇයට තේරෙන් නෑ. හරී සන්තෝෂයෙන් හරී සතුටින් දරුවාගේ හුරතල් මැදම ඇගේ ජීවිතය ගතවුනා. එහෙම ගතවෙද්දි හදිසියේම මෙන්න දරුපැටියා ලෙඩවුනා. ලෙඩ වෙලා දවසයි දෙකයි අනපේක්ෂිත විදියට ඒ දරුවා මේ ලෝකය හැරගියා. තමන්ගේ පළමුවෙනි දරුපැටියා. තමන් ආදරය කරපු දරු පැටියා. සාමාන්‍යයෙන් පළවෙනියටම දරුවෙක් බිහිවෙනකොට ඒ කාන්තාව හරි බයයි ඒ දරු උපතට මුහුණ දෙන්න. ඇයි එයාට අත්දැකීමක් නෑ, දරුවා ප්‍රසූත කරන මොහොතට මුහුණ දෙන්න ඇය බයෙන් ඉන්නවා. බයේ බයේ ඉඳලා බිහි කරපු දරුවා. බිහිවුන වෙලාවේ දරුවාගේ ඇඬුම් අහනකොට වාසෙට්ඨී ගොඩාක් සතුටු වුනා. අනේ මගේ දරු පැටියා නිරුපද්‍රිතව උපන්නා කියලා. එහෙම දරු පැටියා මලක් මෝරනවා වගේ, කුසුමක් පිපෙනවා වගේ ටික ටික හැදෙමින් හිටපු දරුවා මියපරලොව ගියපුවාම හදිසියේ. සාමාන්‍යයෙන් පින්වතුනි මනුස්සයෙක් ජීවිත කාලෙ ගත කරලා වයෝවෘද්ධ වෙලා මැරෙන එක උහුලන්න පුලුවන්. මොකද මනුස්සයෙක් සාමාන්‍යයෙන් වයෝවෘද්ධ වෙනකොට අපිට හැඟීමක් තියෙනවා මේ කෙනා නම් තව ටික කාලයකින් මැරිලා යාවි කියලා. නමුත් සුකුමාල දරු පැටියෙක්, චූටි ළදරුවෙක්. ළදරුවාගේ වියෝව දරාගන්න අමාරුයි. වාසෙට්ඨා ගොඩාක් ඇඬුවා. ඇයට හිත එකලස් කරගන්න බෑ. තමන්ගේ දරැවා මැරුණා කියන එක ඇයට විශ්වාස නෑ. ඇයට දරුවා මියපරලොව ගිහිල්ලා ආදාහන කටයුතු කලාට පස්සෙත් නිකං දරුවා ඉන්නවා වගේ පේනවා. ඇය දොඩවන්න පටන් ගත්තා. දරුවා ඉන්නවා වගේ ඈ නැලවිලි ගී කියන්න පටන් ගත්තා. ඇය පිස්සියක් වුනා. ඒ පිස්සිය බවට පත්වුනාට පස්සෙ කාටවත් ඇයව නවත්වන්න බෑ, ඇය හිස හැරිච්චි හැරිච්චි අතේ යනවා. අවසානෙ තරුණ වයසේදීම ඇය පාරක් තොටක් ගානෙ දොඩව දොඩවා යන හිතූ හිතූ තැන පෙරලිලා

නිදාගන්න, ඔය කාගෙන් හරි හම්බෙන චුට්ටක් කන අරමුණක් නැති උමතු වෙච්චි කාන්තාවක්. මෙහෙම ජීවිත කොච්චර ඇත්ද. දුක් උහුලන්න බැරිව පිස්සු හැදෙන ජීවිත. දුක් උහුලන්න බැරිව අඬන දොඩන ජීවිත. දුක උහුලාගන්න බැරිව මුලු ජීවිතේම එපා වෙන ජීවිත කොච්චර මේ ලෝකෙ ඇත්ද. වාසෙට්ඨීටත් එහෙම වුනා. වාසෙට්ඨී පාරෙ බැහැලා යනකොට අනිත් මිනිස්සු, ඇතැම් කාරුණික මිනිස්සු අනේ පව් ඒ තැනැත්තිය කියනවා. අනේ තරුණ කාලෙම මේ අහිංසක එකීට වෙච්ච දේ කියනවා කරුණාවන්ත මිනිස්සු. සමහර කටහැකර මිනිස්සු ඇයට නොයෙක් වචන කිය කිය පරිභව කලා. මහා කාලකණ්ණි එකියක් කියලා ගැරහුවා. මේ ඔක්කොම ගැරහිලි ලබ ලබා වාසෙට්ඨී පාරක් පාරක් ගානෙ යනවා. මේ වාසෙට්ඨී රහත් තෙරණිය තමන් වහන්සේගේ චරිතාපදානයේදී තමන් වහන්සේගේ ථෙරීගාථා වලදී ඒ තමන් වහන්සේ ගිහි කාලෙ ගත කරපු ජීවිතේ ගැන කිව්වා, ඒ මේ විදියට. පුත්ත සෝකෙ නාහං අට්ඨා කිත්ත චිත්තා විසංජිනේ - මට පුතා මැරිච්චි දුක ඉවසගන්න බැරිව ගියා. මට පිස්සු හැදුනා. සිහි නැතිව ගියා. නග්ගා පකිණ්ණ කේසිච තේන තේන විචාරිහං - අවසානයේ ඇගේ වස්ත්‍රයක් පවා නැතිව ගියා. කොණ්ඩෙ කඩාගෙන පාරක් පාරක් ගානෙ ඇවිදගෙන යන්නයි මට සිද්ධ වුනේ. ඇගේ ඇඳුමක් තියෙනවාද කියලාවත් අදහසක් නෑ, සිහියක් පතක් නෑ. පිස්සියක් බවට පත්වෙලා ඈ ඇවිදිනවා. වසීං සංකාර කූටේසු සුසානේ රතියා සුච - කහල ගොඩවල් ගානෙ අමු සොහොන් පිටි ගානෙ රථගාල් ගානෙ, අචරිං තිරිමි වස්සාමි - තුන් අවුරුද්දක් මුළුල්ලේම මං ඇවිද ඇවිද ගියා. අවුරුදු තුනක් පිස්සියක්. කුප්පිපාසා සමප්පිතා - බඩගින්නෙන් පිපාසෙන් මං ගොඩාක් දුක් වින්දා. ඔය අතරේ මෙහෙම ජීවිතේ අභාග්‍යය රැදෙමින් තියෙද්දි, ජීවිතේ මහා අවාසනාවන්තව තියෙද්දි, ජීවිතේ කාලකණ්ණි වෙවී තියෙද්දි, අතද්දාසිං සුගතං නගරං නිතිවං පතී අදන්තානං ධමේ තාරං සම්බුද්ධ මකුතො භයං - බුදුරජාණන් වහන්සේ මිථිලා නගරයට වඩින අයුරු අනේ මටත් දැකගන්න ලැබුනා. නොදැමුණු සත්වයෝ දමනය කරන කිසිම අයුරකින් බියක් නොමැති සම්බුදු සමිඳුන්ව අනේ මටත් දැකගන්න ලැබුනා. පින්වතුනි ඒ දෑස් පින් කරලා තිබුනා ඒ බුදුරුව දැකගන්න. ඒ බුදුරජාණන් වහන්සේව දැකගන්න ඒ දෑස් පින් කරලා තිබුනා. අපිට වුනත් කල්පනා කරනකොට හිතෙනවා අනේ සෑයක් දැකගන්න මේ ඇස් පින් කරලා තිබුනා කියලා. අනේ බෝධියක් දැකගන්න මේ ඇස් පින් කරලා තිබුනා. උතුම් සංඝයා වහන්සේලා දැකගන්න මේ ඇස් පින් කරලා තිබුනා. මහ සඟරුවන පාත්තරය අරගෙන පෝලිමට දානෙට වඩින

හැටි දැකගන්න මේ ඇස් පින් කරලා තිබුනා. මිනිස්සු දෙනෝ දාහක් එකතු වෙලා සාදු සාදු කියලා සෑය වඳින හැටි දැකගන්න මේ ඇස් පින් කරලා තිබුනා. කල්‍යාණමිත්‍රයෙක් විසින් සම්බුද්ධ වචනය ඉතා සරලවට පරිවර්තනය කරනකොට ඒ පරිවර්තනය කියවගන්න මේ ඇස් පින් කරල තිබුනා. ඒ කල්‍යාණමිත්‍රයාව ඒ සත්පුරුෂයාව දැකගන්න මේ ඇස් පින් කරලා තිබුනා. බුදුරජාණන් වහන්සේගේ උතුම් ධාතූන් වහන්සේලා ධාතු ප්‍රදර්ශන වලදි දකින්න මේ ඇස් පින් කරලා තිබුනා. අපේ ඇසුත් යම් පමණකින් පින් කරලා තිබුනා. අපේ ඇස් ගැනත් අපිට ඒ විදියට හිතෙනකොට වාසෙට්ඨීගේ ඇස්, ඒ වාසෙට්ඨීගේ දෑස ජීවමාන සම්මා සම්බුදුරජාණන් වහන්සේව දැකගන්න තරම් පින් කරලා තිබුනා. බුදුරජාණන් වහන්සේ ගැන අපේ උතුම් බණ පොත් වල තියෙනවා පින්වතුනි, යම් කෙනෙක් ඒ බුදුරජාණන් වහන්සේගේ රුව දකිද්දි භාග්‍යවතුන් වහන්සේ දැක අනේ මා හට බුදුරජාණන් වහන්සේ දැකගන්න ලැබුනා කියලා සතුටු කඳුලු හෙලනවා නම් එහෙම නැත්නම් බුදුරජාණන් වහන්සේගේ උතුම් බණ පද අහද්දි ඒ ධර්මයෙන් උපදින සතුටින් ඒ කෙනාගේ දෑස සතුටු කඳුලු එනවා නම් එබඳු දෑස් ඇති තැනැත්තාට උපනූපන් ආත්මයේ ඇස් ලෙඩ නම් හැදෙන් නෑ කියනවා ඔය පිනේ බලයෙන්. ඉතින් එහෙම සම්බුදුරජාණන් වහන්සේව වාසෙට්ඨී කියන උමතු භාවයට පත්වෙච්ච තැනැත්තියට දැකගන්න ලැබුනා. ඒ ගැන කියන්නෙ මෙහෙම. නොදැමුණු සත්වයෝ දමනය කරන, කිසිම අයුරකින් බියක් තැතිගැනීමක් නැති සම්බුදුරජාණන් වහන්සේව අනේ මා හටත් දැකගන්න ලැබුනානේ. ඒ බුදුරජාණන් වහන්සේ දකින්න ලැබිච්ච හැටි පින්වතුනි සූත්‍ර දේශනා වල සඳහන් වෙනවා, ඒ කාලෙ භාග්‍යවතුන් වහන්සේ දැක්ක අය තමයි ඒවා කියලා තියෙන්නෙ. එක සිද්ධියක් තියෙනවා බුදුරජාණන් වහන්සේ උක්කට්ඨා කියන නගරයේ ඉඳලා සේතව්‍යා කියන නගරයට දීර්ඝ මාර්ගයට පැමිණුනා. ඒ දීර්ඝ මාර්ගය කියලා කියන්නෙ ඔය උක්කට්ඨාවෙ ඉඳලා සේතව්‍යා වලට යම් දුරක් තිබුනා, මේ දුර බුදුරජාණන් වහන්සේ පා ගමනින්ම වැඩම කරන්න පිටත් වුනා. බුදුරජාණන් වහන්සේ වැඩම කරලා බොහොම පොඩි වෙලාවකට පස්සෙ ඔය පාරෙම උක්කට්ඨාවෙ ඉඳලා සේතව්‍යාවට පිටත් වුනා ද්‍රෝණ කියලා බමුණෙක්. ඔය ද්‍රෝණ කියන බමුණා එසේ මෙසේ කෙනෙක් නෙවෙයි, ඒ කාලෙ හිටපු ආචාර්යවරයෙක්. ඒ කාලෙ තිබුනානෙ ලක්ඛණ ශාස්ත්‍රය කියලා ශාස්ත්‍රයක්. ඔය ලක්ඛණ ශාස්ත්‍රයේ කෙලපැමිණි ලක්ඛණ ශාස්ත්‍රයේ දක්ෂ, අනිත් අයටත් ලක්ඛණ ශාස්ත්‍රය උගන්වන බමුණෙක් තමයි ද්‍රෝණ. ද්‍රෝණ බමුණා

බුදුරජාණන් වහන්සේ වැඩම කරලා ටික වෙලාවකට පස්සෙ මේ පාරෙ යනවා. බුදුරජාණන් වහන්සේ දකිනවා තමන් වහන්සේ පසුපසින් යම් පමණක් දුරින් මේ පැමිණෙන ද්‍රෝණ බමුණාට පින් තියෙනවා, මේ පින්වන්තයෙක්. සිත පහදවාගැනීමේ පින තියෙන කෙනෙක්. බුදුරජාණන් වහන්සේ ඍද්ධියක් කලා, භාග්‍යවතුන් වහන්සේගේ උතුම් සිරිපා සටහන මහපොළොවේ පිහිටන විදියට. සාමාන්‍යයෙන් පින්වතුනි ශාස්තෘන් වහන්සේ වැඩම කරනකොට පා පියවර සටහන් පොළොවේ හිටින් නෑ. බුදුරජාණන් වහන්සේ විශේෂ අධිෂ්ටානයක් කලොත් විතරක් ඒ පියවර සටහන පොළොවේ පිහිටා හිටිනවා. ඒ පිහිටා හිටින පියවර සටහනත් බුදුරජාණන් වහන්සේ යම් කෙනෙකුට යම් පින්වන්තයෙකුට දැකගැනීම උදෙසා නම් පිහිටෙව්වේ ඒ පින්වන්තයා සිරිපා සටහන දැකලා ඉවර වුනාට පස්සෙ එතනින් නොපෙනී යනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ මේ සිරිපා සටහන මේ දීර්ඝ මාර්ගයේ යම් තැනක පිහිටන්න අධිෂ්ටාන කලා. භාග්‍යවතුන් වහන්සේ වැඩම කලා. ලක්ඛණ ශාස්ත්‍රයේ දක්ෂ ද්‍රෝණ බමුණාට මේ පාරේ පියවර සටහනක් පිහිටලා තියෙනවා පේනවා. දැක්ක ගමන් දුරදීම ද්‍රෝණ බමුණා අඳුරගත්තා මේක නම් විශේෂ පුරුෂයෙකුගේ පියවර සටහනක්. ද්‍රෝණ බමුණා ළංවෙලා බිම පෙරළිලා මේ සටහන පරීක්ෂා කරනවා, පරීක්ෂා කරනකොට ඔහුට තේරෙනවා මේ පා සටහනේ හැටියට නම් මහා පුරුෂයෙක්, මහා පුරුෂයෙක් කලාතුරකින් ලෝකයේ පහළ වෙන ජාතියේ මහා පුරුෂයෙක් මං මේ පැමිණෙන්න මොහොතකට කලින් මෙතනින් වැඩම කරලා. පය ඉක්මන් කරන්න ඕන, පය ඉක්මන් කරන්න ඕන කියලා ද්‍රෝණ බමුණා ටිකක් හනි හනිකට ගමන පටන් ගත්තා. බුදුරජාණන් වහන්සේ මේ ඔක්කොම දකිනවා. භාග්‍යවතුන් වහන්සේ ද්‍රෝණ බමුණාට හොඳට පේන විදියට මේ මාර්ගය අයිනට වෙන්න රුක් සෙවණක පළඟක් බැඳගෙන වාඩිවුනා. ඒ පළඟක් බැඳගෙන වාඩිවී සිටි අපගේ සම්මා සම්බුදුරජාණන් වහන්සේව ද්‍රෝණ බමුණා දැක්ක හැටි ද්‍රෝණ සූත්‍රයේ සඳහන් වෙනවා. සන්තින්ද්‍රියං - ශාන්ත ඉඳුරන් ඇති, සන්තමානසං - සන්සිඳී ගිය මනසකුත් ඇති, පාසාදිකං - දුටුවන්ගේ සිත පැහැදී යන, පාසාදනීයං - හැම අයුරින්ම පැහැදීම ඇතිකරවන, උත්තම සමත දමත මනු යුත්තං - උතුම් වූ සන්සිඳීමෙන් දමනය වීමෙන් යුතු වූ, අනුත්තරං නාගං - ශ්‍රේෂ්ට හස්තිරාජයෙක් වගේ බුදුරජාණන් වහන්සේ අර රුක් සෙවණේ වැඩ ඉන්නවා. භාග්‍යවතුන් වහන්සේ ඝන රන් පැහැයෙන් යුක්තයි, හරියට පින්වතුනි රන් පිළිමයක් රුක් සෙවණේ තිබ්බා වගේ. ඉතින් මේ ද්‍රෝණ බමුණා භාග්‍යවතුන් වහන්සේ ළඟට

පය ඉක්මන් කරලා හනිකට ගියා. ගිහිල්ලා භාග්‍යවතුන් වහන්සේ ඉදිරියේ, දැන් මේ ද්‍රෝණ බමුණා හොඳට බලනවා දැකගන්න නොලැබෙන විදියේ දුර්ලභ අතිශය දුර්ලභ ශාරීරික ලක්ෂණ පේන්නෙ. ද්‍රෝණ බමුණා භාග්‍යවතුන් වහන්සේගෙන් අහනවා, පින්වත් ශ්‍රමණය, ඔබ මහා බ්‍රහ්මයා වත්ද? බුදුරජාණන් වහන්සේ වදාළා බ්‍රාහ්මණය, මා මහාබ්‍රහ්මයා නොවේ. එසේ නම් ඔබ දෙවියෙක්ද? බ්‍රාහ්මණය මා දෙවියෙක්ද නොවේ. එසේ නම් ඔබ ගාන්ධර්වයෙක්ද? බ්‍රාහ්මණය, මා ගාන්ධර්වයෙක්ද නොවේ. එසේ නම් ඔබ යක්ෂයෙක්ද, නෑ බ්‍රාහ්මණය මා යක්ෂයෙක්ද නොවේ. එසේ නම් ඔබ මනුස්සයෙක්ද? බුදුරජාණන් වහන්සේ වදාලා, බ්‍රාහ්මණ, මා මනුස්සයෙක්ද නොවේ. එතකොට මේ බ්‍රාහ්මණයාට අදහගන්න බැරිවගියා. මේ බ්‍රාහ්මණයා කියනවා පින්වත් ශ්‍රමණයන් වහන්ස, ඔබ වහන්සේ මා පවසන පවසන දේට කියන්නෙ නැහැ කියලාමයි. එසේ නම් මා හට පවසනු මැනවි බ්‍රහ්මයෙකුත් නොවෙන, දෙවියෙකුත් නොවන, ගාන්ධර්වයෙකුත් නොවන, යක්ෂයෙකුත් නොවන, මනුෂ්‍යයෙකුත් නොවන ඔබ කවුද? බුදුරජාණන් වහන්සේ වදාළා බ්‍රාහ්මණ මං ආස්‍රව ප්‍රහාණය කරපු කෙනෙක්. යම් ආස්‍රවයක් මුල් කරගෙන දෙවියන් අතරට යනවා නම් ඒ ආස්‍රව මා හට නැත. ඒ නිසා මා දෙවියෙක්ද නොවේ. යම් ආස්‍රවයක් මුල් කරගෙන ගාන්ධර්වයො අතරට යන්නේද, ඒ ආස්‍රව මා තුළ නැත. ඒ නිසා මා ගාන්ධර්වයෙක්ද නොවේ. යම් ආස්‍රවයක් මුල් කරගෙන යක්ෂයන් අතරට යන්නේද ඒ ආස්‍රව ද මා තුළ ද නැත. ඒ නිසා මා යක්ෂයෙක් ද නොවෙමි. යම් ආස්‍රවයක් නිසා යළි මනු ලොවට පැමිණෙන්නේද ඒ ආස්‍රව ද මා තුළ නැත. බ්‍රාහ්මණ, මා මනුෂ්‍යයෙක්ද නොවෙමි. බුදුරජාණන් වහන්සේ වදාරනවා බ්‍රාහ්මණ ඔබ තේරුම් ගන්න ඕන මෙන්න මේ විදියටයි. හරියට දියේ හටගත්ත මහනෙල් මලක්, රතු නෙළුමක්, එහෙම නැත්නම් සුදු නෙළුමක් දියේම හටගෙන දියේම වැඩිලා ජලයෙන් උඩට පැනනැගුනාට පස්සෙ ආයෙ ඒ ජලයේ පහස නොලබා ජලයේ නොතැවරී ඉන්නේ යම් සේද, අන්න ඒ වගේ බ්‍රාහ්මණ, මං මේ ලෝකයේම ඉපදිලා ලෝකයේම වැඩිලා ලෝකය මැඩගෙන නැගී හිටලා ලෝකයේ පහස නොලබා වාසය කරමි. තස්මා බුද්ධෝස්මි බ්‍රාහ්මණ - බ්‍රාහ්මණය ඔබ මා ගැන දැනගත යුත්තේ බුද්ධ කියලයි. බුදුරජාණන් වහන්සේම තමන් වහන්සේව හැඳින්නුවා එහෙම. භාග්‍යවතුන් වහන්සේ වදාරනවා ලස්සන ගාථාවක්. පුණ්ඩරීකං යථා වග්ගො තෝ යේන නූපලිප්පති නූපලිත්තුංහි ලෝකෙන තස්මා බුද්ධොස්මි බ්‍රාහ්මණ - දියේ පහස නොලබා දියට ඉහළින් සිටිනා සිත්කළු සුදු නෙළුමක් සෙයින් ලෝකයේ

නොතැවරි ඉහළින් සිටින මා බුද්ධ කියා හඳුනාගන්න. බුදුරජාණන් වහන්සේ එහෙමයි තථාගතයන් වහන්සේව හඳුන්වා දුන්නෙ. ඉතින් ඒ බුදුරජාණන් වහන්සේගේ දැක්ම, ඒ බුදුරජාණන් වහන්සේ දැකගන්න ලැබුනු ඇස් වලින් තමන්ගේ ඇස් දෙකින් බුදුරජාණන් වහන්සේ දැකගන්න ලැබිච්චි අය ඒ විදියටයි බුදුරජාණන් වහන්සේව වර්ණනා කලේ. පින්වතුනි ඒ බුදුරුව දකිනකොට, ඒ මහා කාරුණිකයන් වහන්සේගේ රුව දකිනකොට මේ ලෝකයේ රාජ මහා තෙද ඇති, මහා බල ඇති රජවරු පවා දමනය වී ගියා. ආශ්චයයයීයි අපගේ ශාස්තෲන් වහන්සේ නම්. ඔබට මතක ඇති මේ දඹදිවටම අගරාජ බවට පත්වෙච්චි අශෝක කියන අධිරාජයා. අශෝක අධිරාජයා ප්‍රසිද්ධ වුනේ චණ්ඩාශෝක කියන නමින්. චණ්ඩාශෝක කියන්න හේතුව තමන්ට හිටපු සහෝදරයො අනූනවයක්ම මරලා මහා භයානක බිහිසුණු යුද්ධයක් කලා. මුළු දඹදිවම ඒකඡත්‍ර කලා. ඒකඡත්‍ර කරනවා කියන්නෙ තමන්ගේ අයිතියට, තමන්ගේ බලයට, තමන්ගේ යටත් විජිතයක් බවට පත්කරගත්තා මුළු දඹදිවම. දැන් අද ගත්තොත් එහෙම අධිරාජයෙක් අදටත් නෑ. මෙච්චර මේ ලෝකෙ දියුණුයි කියලා කිව්වට එහෙම අධිරාජයෙක් අදටත් නෑ. මුළු දඹදිවම ඇල්ලුවානෙ දැන් මේ වෙනකොට දඹදිව කෑලි කෑලිවලට කැඩිලා. මුළු දඹදිවටම තනියෙන් අගරජු බවට පත්වුනා. ඉන්න රජවරු ඝාතනය කරලා තමන් තනියෙන් දඹදිවටම රජ වෙනකොට කොච්චර යුද්ධ කරන්න ඕනද. ඒ යුද්ධ කරපු කුරිරු බව නිසා ඔහු ප්‍රසිද්ධ වුනා චණ්ඩාශෝක. චණ්ඩාශෝකයන් රජු බවට පත්වුනාට පස්සෙ නිග්‍රෝධ කියන සාමණේරයන් වහන්සේ නිසා බුදු බණ ඇහුවා. බුදු බණ අහලා බුද්ධ ශාසනයේ දමනය වුනා. නිතර බණ අහන කෙනෙක් වුනා. දැන් භාග්‍යවතුන් වහන්සේගේ බණ පද මහා සංඝරත්නයෙන් ඔහු අහනවා. ඔහු නිතර බණ ඇහුවා මොග්ගලීපුත්තතිස්ස මහරහතන් වහන්සේගෙන්. මොග්ගලීපුත්තතිස්ස මහරහතන් වහන්සේ දවසක් ඔහුට කියාදෙනවා මේ බුදුරජාණන් වහන්සේගේ තිබුනු ශාරීරික ලක්ෂණ ගැන. මොකක්ද ඒ සූත්‍රය, ලක්ඛණ සූත්‍ර දේශනාව. ඒ දේශනාව ශ්‍රවණය කලාට පස්සෙ රජ්ජුරුවන්ට ආසාවක් උපන්නා මටත් ඒ බුදුරුව දැකගන්න ඕනා. රජ්ජුරුවො කල්පනා කලා මම මුළු දඹදිවටම රජ වුනත්, මම මුළු දඹදිවටම රජවෙලා හිටියත් මට බුදුරුව දැකගන්න නැත්නම් මට වැඩක් නෑ, මට බුදුරජාණන් වහන්සේගේ රුව දකින්නම ඕන. දැන් මේකෙන් රජ්ජුරුවො බොහොම ඉස්පාසුවක් නැතිව ඉන්නවා, බුදුරුව දැකගන්න. ඔය අතරේ රජ්ජුරුවන්ට ආරංචි වෙනවා භික්ෂූන් වහන්සේලාගේ බණ පද වලින්ම

දැනගන්න ලැබුනා නාගරාජයන්ට දීර්ඝායුෂ තියෙන බව. මහා කාල කියන මහා නාගරාජයා බුදුරජාණන් වහන්සේව විතරක් නෙවෙයි, ගෞතම බුදුරජාණන් වහන්සේව විතරක් නෙවෙයි, ඊට කලින් පහළ වෙච්චි බුදුරජාණන් වහන්සේවත් දැකලා තියෙනවා කියලා රජ්ජුරුවන්ට අහන්න ලැබුනා. රජ්ජුරුවො කල්පනා කලා එහෙනම් මට බුදුරජාණන් වහන්සේගේ රුව දැකගන්න කරන්න තියෙන්නෙ මහාකාල නාගරාජයාව හම්බවෙන එක. රජ්ජුරුවො තමන් ගාව තිබුනා රාජකීය මුද්‍රාවක්. ඒ රාජකීය මුද්‍රාව මෙහෙම පොළොවට දානවා. පොළොවට දාලා - මේක මුදුවක් වගේ, ආභරණයක් වගේ එකක් - මේක පොළොවට දාලා රජ්ජුරුවො හිතනවා මේ මගේ ආඥාවයි, මහාකාල නම් වූ නා රජු මා සමීපයට පැමිණේවා. මේ අශෝක අධිරාජයා කියලා කියන්නෙ පින්වතුනේ අහසේත් පොළොවේත් යොදුනක් අණසක පිහිටි කෙනෙක්. ඒක ඔහුට පිනක් නිසා ලැබිච්ච දෙයක්. ඔහු රජ වුනේ මහා ආනුභාව සම්පන් විදියට අහසේත් අණසක යොදුනක් පිහිටියා. ඔහුගේ අණසකම පොළොවේත් යොදුනක් පිහිටියා. එතකොට මේ නාගරාජයාට රජ්ජුරුවො කරපු අණ කිරීම නාගරාජයාට ප්‍රතික්ෂේප කරන්න බෑ. මොකද රජුගේ අණසක යටතේ තමයි නාලොවත් පැවතුනේ. ධර්මාශෝක අධිරාජයාගේ, අශෝක අධිරාජයා ධර්මය තුළට පැමිණුන්ට පස්සෙ ප්‍රසිද්ධ වුනානෙ ධර්මාශෝක. ධර්මාශෝක අධිරාජයාගේ මේ අණ කිරීමට මහාකාල කියන නාගරාජයා ධර්මාශෝක රජ්ජුරුවො ළඟට එනවා. ඒ පැමිණියාට පස්සෙ ධර්මාශෝක රජ්ජුරුවො මේ නාගරාජයාට සුදුසු විදියට සත්කාර කලා. තමන්ගේ සිංහාසනේයම වඩාහිදෙව්වා. වඩාහිදෙව්වාට පස්සෙ නාගරාජයා අහනවා මහරාජය, ඔබ කුමක් නිසාද මාව කැඳෙව්වෙ? එතකොට රජ්ජුරුවො කියනවා මා අසා තිබෙනවා ඔබ ඒ භාග්‍යවත් වූ අර්හත් වූ ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේව ඔබගේ ඇස් දෙකින් දැක තිබෙන බව. ඊළඟට මම දන්නවා නාරජවරුන්ට නොයෙක් නොයෙක් වෙස් ගන්නට හැකි බව. පින්වත් නාරජුනි, ඔබ යම් අයුරකින් ඒ බුදුරජාණන් වහන්සේගේ රුව දුටුවාද, ඒ සොඳුරු බුදුරුව අනේ ඔබේ හැකියාවෙන් මට මවලා පෙන්වන්න කිව්වා. එතකොට නාරජ්ජුරුවො කියනවා මහාරාජය, දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් යුක්ත වූ අසූවක් වූ අනුව්‍යඤ්ජන ලක්ෂණයන්ගෙන් යුක්ත වූ බුදුරුව මා වැන්නෙක් කෙසේ මවන්නද. මට ඒ විදියට බුදුරුව මවන්න බෑ. හැබැයි මට බුදුරජාණන් වහන්සේට ආසන්න රුවක් ඔබට මවලා පෙන්වන්න පුලුවන්. එතකොට රජ්ජුරුවො කියනවා ඔබට සම්පූර්ණයෙන් බුදුරජාණන්

වහන්සේගේ රුව එහෙම්මම මවන්න බැරිවුනාට කමක් නෑ, මට ආසන්න වශයෙන් ඒ බුදුරජාණන් වහන්සේගේ රූපයට සමාන රූපයක් මවලා පෙන්වන්න කිව්වා. එතකොට මේ මහාකාල කියන නාරජ්ජුරුවො බුදුරජාණන් වහන්සේගේ රූපයට සමාන රුවක් මැව්වා. අර මහා යුද්ධයක් කරපු, මුළු දඹදිවම දික්විජය කරලා ඒකඡත්‍ර කරපු දැඩි හිතක් තියෙන ධර්මාශෝක අධිරාජයාගේ මේ සිත වෙඬරු පිඩක් වගේ උණු වී ගියා. දෑහින් කඳුළු කැට ගලන්න පටන් ගත්තා. නොදැනීම වන්දනා කෙරුනා. අත වෙව්ල වෙව්ලා වෙව්ලන හඬින් කියනවා නාරජුනේ ඔබ ඔහොම ඉන්න, ඔබ ඔහොම ඉන්න ඉතා දුර්ලභ වූ බුදුරුව මට දෑසින් දැකගන්න ලැබුනා. මේ දැකගන්න ලැබුනු මොහොත් මම බුදුරජාණන් වහන්සේ උදෙසා නේත්‍ර පූජා කරන්නෙමි කියලා ධර්මාශෝක අධිරාජයා සතියක් පුරාවට ආහාරපාන කිසිවක් ගන්නේ නැතිව ඒ බුදුරුව දෙසම බලාගෙන හිඳිමින් නේත්‍රපූජා කියලා විශේෂ පූජාවක් කලා. බුදුරජාණන් වහන්සේගේ දැක්ම. ඒ බුදුරජාණන් වහන්සේගේ රූපය දැකීමම පින්වතුනි එහෙම ආශ්චර්‍යයක්. ඉතින් මිථිලාවට භාග්‍යවතුන් වහන්සේ වඩින වෙලාවේ මේ වාසෙට්ඨී කාන්තාවට බුදුරජාණන් වහන්සේව දැකගන්න ලැබුනෙ. සචිත්තං පටිලද්ධාන වන්දිත්වාන උපාවිසිං - අනේ උන්වහන්සේව දකිනකොටම මට ප්‍රකෘති සිහිය ආවා. තුන් අවුරුද්දක් තිස්සේ පිස්සියක් වෙලා හිටියෙ. ඒ පිස්සියක් වෙලා තුන් අවුරුද්දක් තිස්සෙ එහේ මෙහේ ඇවිදිනකොට නොයෙක් නොයෙක් අය දැක්කා. නොයෙක් නොයෙක් දේ දැක්කා. ඒ දැක්කා කියලා ඇට හිතට සැනසීමක් ලැබුන් නෑ. ඇයට සුවයක් ලැබුන් නෑ. මිථිලාවට බුදුරජාණන් වහන්සේ වඩිනකොට ඈ භාග්‍යවතුන් වහන්සේව යම් මොහොතක දුටුවාද ඒ දකින මොහොතේම ඇට ප්‍රකෘති සිහිය ආවා. මං උන්වහන්සේ ළඟට ගිහිල්ලා වන්දනා කලා. සො මේ ධම්ම මදෙසේසේ අනුකම්පාය ගෝතමො - ඒ ගෞතම බුදුසමිඳාණන් මං ගැන ගොඩාක් අනුකම්පා කලා. මට දහම් දෙසුවා. බුදුරජාණන් වහන්සේගේ රූපයට පැහැදිලා භාග්‍යවතුන් වහන්සේ ගැන මහා පහන් හිතකින් සිහි එළවාගත්ත ඇය භාග්‍යවතුන් වහන්සේගේ පා කමල් යුග අභියස වන්දනා කරනකොට ඒ බුදුරජාණන් වහන්සේ ඇයට අනුකම්පාවෙන් දහම් දෙසුවා. බුදුවරු කියන්නෙ පින්වතුනි ලෝකයට අනුකම්පා ඇති අය. ලෝකයට අනුකම්පාවෙන්මයි ශාස්තෘන් වහන්සේ මේ ලෝකයට පහළ වුනේ. ඒක පුග්ගලො භික්ඛවෙ ලෝකෙ උප්පජ්ජමානො උප්පජ්ජති - මහණෙනි මේ ලෝකයට එකම එක පුද්ගලයෙක් පහළ වෙතොත් පහළ වෙන්නේය, බහුජන හිතාය - බොහෝ

ජනයාට හිත පිණිස, බහුජන සුඛාය - බොහෝ ජනයාට සැප පිණිස, ලෝකානුකම්පාය - ලෝකයට අනුකම්පා පිණිස. ඒ ලෝකයට අනුකම්පා පිණිස පහළ වෙන එකම එක පුද්ගල රත්නය කවරෙක්ද? තථාගතො අරහතො සම්මා සම්බුද්ධො - තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේමය. බුදුරජාණන් වහන්සේ තමයි මේ ලෝකයට අනුකම්පාවෙන් පහළ වෙන, දෙව් මිනිස් ලෝ සතුන්ට හිතසුව පිණිස පහළ වෙන එකම එක පුද්ගල රත්නය. ඒ බුදුරජාණන් වහන්සේ ලෝකයට පහළ වෙලා බුදුරජාණන් වහන්සේ මේ ලෝකයේ වැඩ ඉන්නකොට භාග්‍යවතුන් වහන්සේ දැකීමෙනුත් ලෝකයට යහපත සැලසුනා. බුදුරජාණන් වහන්සේ දැක ගෞරව සත්කාර දක්වනකොටත් යහපතක්ම සැලසුනා. බුදුරජාණන් වහන්සේට සාදු සාදු කියලා වඳිද්දිත් යහපතක්ම සැලසුනා. බුදුරජාණන් වහන්සේගේ සිත් නිවන බණ පද වලින් සැලසුනු යහපත ගැන කවර කතාද. බුදුරජාණන් වහන්සේව සිහි කලත්, බුදුරජාණන් වහන්සේව සිහි කලත් ඒක බොහෝ කල් යහපත පිණිස හේතු වෙන දෙයක්. දැන් එක අවස්ථාවක තියෙනවා එක දෙවඟනකගේ සිදුවීමක්. ඒ දෙවඟනගේ සිදුවීම වුනේ මෙහෙම. ඈ දෙවඟනක් බවට පත්වුනේ බුදුරජාණන් වහන්සේගේ රුව දැකීම නිසාමයි. ඇය මනුස්ස ලෝකයේ මහළු කාන්තාවක් වෙලා කුදුවෙච්චි කාන්තාවක් වෙලා හැරමිටියක් අරගෙන කෙඳිරි ගගා පාරෙ යනවා. බුදුරජාණන් වහන්සේ මහා කරුණා සමාපත්තියෙන් ලෝකය දකිනකොට භාගයවතුන් වහන්සේ දැක්කා මේ හැරමිටියක් අරගෙන කුදුවූ ශරීරයක් ඇතිව කෙඳිරි ගගා වෙව්ල වෙව්ලා යන මේ කාන්තාවට ආයුෂ ඇත්තේ චුට්ටකි. ඇය ජීවිතය ගත කොට ඇති අයුරින් නම් මැරිච්ච ගමන් ඇයට යන්නට තියෙන්නේ නිරයටයි. හැබැයි ඇයට එකම එක අවස්ථාවක් තියෙනවා, ඒ අවස්ථාව තමයි සිත පහදවා ගැනීම. සිත පහදවා ගැනීම. සිත පහදවාගත යුතු උත්තමයා ගැන සිත පහදවා ගැනීමේ භාගයය ඇයට තිබේ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ ඇයට අනුකම්පා කලා. අපේ මහා මොග්ගල්ලාන මහරහතන් වහන්සේත් එක්ක ඍද්ධියෙන් භාගයවතුන් වහන්සේ වැඩම කලා කෙඳිරි ගගා යන වයසක අම්මා ඉස්සරහට. මේ අම්මා කෙඳිරි ගගා යනකොට මේ අම්මාට පේනවා භාගයවතුන් වහන්සේ පාරෙ ඉස්සරහා හිටගෙන ඉන්නවා. ඒ අම්මා දැක්කෙ බුදුරජාණන් වහන්සේගේ සිරිපතුල්. තඹවන් වූ නිය ඇති ඒ රන්වන් සිරිපා ඒ අම්මා දකිනවා. ඒ අම්මා ඒ සිරිපා යුග දකිනකොටම ඒ අම්මාට ඇහෙනවා හඬක්. මහාමොග්ගල්ලාන මහරහතන් වහන්සේ කියනවා අම්මා මේ අම්මා ඉස්සරහා හිටගෙන ඉන්නෙ මහා කාරුණික

බුදුරජාණන් වහන්සේ. අම්මා මේ මහා කාරුණිකයන් වහන්සේ ගැන අම්මා හිත පහදවාගන්න. එතකොට ඒ අම්මා මේ වචනෙත් එක්ක ඔළුව උස්සලා බැලුවා. ඒ ඔළුව උස්සලා බලනකොට ඒ අම්මාට දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් සෝබමාන බුදුරජාණන් වහන්සේව පේනවා. ඒ අම්මට හිතක් උපන්නා. ඇත්ත. මහා කාරුණිකයි. මහා කාරුණිකයි කියන හිත ඒ අම්මට ඇතිවුනා. ඒ අම්මා චේතනාවක් පහළ කරනවා, එහෙනම් මං මේ මහා කාරුණික උත්තමයාට වඳින්න ඕන. අන්න ඒ අම්මට ආවා හිතේ උතුම් පින් සිතුවිල්ලක්. ඒ අම්මා වන්දනා කලා. බුදුරජාණන් වහන්සේ වදාරනවා, මහා මොග්ගල්ලානයෙනි දැන් ඇති. අපි වැඩම කරමු. බුදුරජාණන් වහන්සේත් මුගලන් මහරහතන් වහන්සේත් ආයෙමත් ඍද්ධියෙන් වැඩම කලා. ඊට චූටි වෙලාවකට පස්සෙ ඒ අම්මා කළුරිය කරනවා. ඒ අම්මා නිරයේ යන්න හිටපු කෙනා, ඒ නිරයේ යන්න හිටපු කෙනා මේ මනුස්ස ලෝකෙත් ඉක්මවලා තව්තිසා දෙවියන් අතරේ උපන්නානෙ පින්වතුනෙ අන්තිම මොහොතේ හිත පහදවාගැනීම නිසා. බුදුගුණයක් දන්නෙ නෑ. බුදුරජාණන් වහන්සේව ගුණ වශයෙන් පොඩ්ඩක්වත් හඳුනන්නෙ නෑ. ඒ අම්මට අහන්න ලැබුනේ මහා කාරුණිකයි කියන වචනෙ විතරයි. ඊළඟට ඒ අම්මට දැකගන්න ලැබුනා බුදුරජාණන් වහන්සෙගේ රුව. ඒ ටිකට හිත පැහැදිලා ඒ අම්මට ලැබුනා සුගතියේ ශ්‍රී සම්පත්තිය. ඒ නිසයි භාග්‍යවතුන් වහන්සේගේ ධර්මයේ කියවෙන්නෙ යේ කේචි බුද්ධං සරණං ගතාසේ - යම්කිසි කෙනෙක් ඒ බුදුරජාණන් වහන්සේ ගැන හිත පහදවාගෙන බුදු සරණ ලැබුයේ නම්, නතේ ගමිස්සංති අපායං - ඒ කෙනා කිසි කලෙකත් අපායේ යන්නෙ නැත. පහාය මානසං දේහං දේවකායං පරිපූරෙස්සං ති - මේ මනුස්ස සිරුර අත්හරිනා විට ඔවුන් හට දෙව්ලොව සුගති සැප ලැබෙන්නේමය. බුදු කෙනෙක් ගැන හිත පහදවාගන්න දක්ෂ වුනොත්. බුදුරජාණන් වහන්සේ ගැන හිත පහදවාගන්න දක්ෂ වුනොත් ඒ කෙනා කවදාවත් දුගතියේ යන්න නම් නෑ. ඒ නිසා පින්වතුනේ මේ බණ පද අහද්දි හොඳට සිහි කරන්න ඕන අපට ලැබිලා තියෙන අවස්ථාව. අපිට අපේ ඇස් වලින් බුදුරුව දැකගන්න ලැබුන් නැහැ. නමුත් ඒ බුදුරජාණන් වහන්සේ ගැන අප්‍රමාණ ගුණ අහන්න අපිට ලැබුනා. කල්‍යාණමිත්‍රයො සත්පුරුෂයො නිසා බුදුගුණ අහන්න ලැබුනා. බුදුරජාණන් වහන්සේගේ ගුණ කඳ අහලා හිත පහදවාගෙන සරණේ පිහිටියොත් අපිට මේ ජීවිතේ ඒකාන්ත වශයෙන් යහපත හදාගන්න පුලුවන්. ඉතින් බුදුරජාණන් වහන්සේ දැකපු ඒ මොහොත ගැන වාසෙට්ඨී තෙරණිය කියන ගාථා. බුදුරජාණන් වහන්සේ

සමීපයට ගියාට පස්සෙ භාග්‍යවතුන් වහන්සේ දහම් දෙසුවා කියනවා. තස්ස ධම්මං සුමිත්වාන පබ්බජිනං අනගාරියං - ඒ බණ පද අහගෙන හිටපු මට අනගාරික බුද්ධ ශාසනයේ පැවිදි වෙන්න ආසාව ඇතිවුනා. ඉංජන්ති සත්තු වචනේ සච්චා කාසිං පදං සිවං - ඉතින් මං පැවිදි වුනා. පැවිදි වෙලා ශාස්තෘන් වහන්සේ දේශනා කරපු ආකාරයටම මං ජීවිතය ගත කලා. මටත් පුලුවන් වුනා ඒ අමා නිවන් සුව සාක්ෂාත් කරන්න. බුදුවරුන්ගේ උපත නම් ලෝකයට සැපයක්මයි. පිස්සියක් වෙලා පාරක් පාරක් ගානෙ ඇවිදගෙන ගියපු කෙනෙක්, සැපයට පත්වෙච්චි හැටි. බුදුරජුන් මුණ නොගැසුනා නම්. භාග්‍යවතුන් වහන්සේව දැකගන්න නොලැබුනා නම්, පිස්සියක් විදියටම පාරෙ කොහෙහරි මැරිලා යයි. එකම එක මොහොතක් බුදුරජාණන් වහන්සේ දැකගන්න ලැබීම, ඇගේ ජීවිතය සම්පූර්ණයෙන්ම වෙනස්කලා. ඇගේ ජීවිතය සදාකාලික සැපය දක්වා අරගෙන ගියා. සබ්බෙ සෝකා සමුච්ජින්නා - සියලු දුක් දොම්නස් නැත්තටම නැතිවෙලා ගියා. පහීනා ඒතදන්තිකා පරිඤ්ඤාතා හිමේ වත්ථු සෝකාන සම්භවො - ශෝකයෙන් හටගන්නා ඒ අරමුණු සියල්ලම මං පිරිසිඳ දැක්කා. බුදුරජාණන් වහන්සේගේ ධර්මය තුළින් ඈ මුළු ජීවිතයම පිරිසිඳ දැක්කා, අවබෝධ කලා. චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කලා. දුකත් දුකේ හේතුවත්, දුක්ඛ නිරෝධය වන අමෘත නිවනත්, දුක් නිවන ප්‍රතිපදාව වන ආර්ය අෂ්ටාංගික මාර්ගයත් අත්දැක්කා ඒ ආර්ය අෂ්ටාංගික මාර්ගය සීල, සමාධි, ප්‍රඥා වශයෙන් දියුණු කරනකොට වාසෙට්ඨී තෙරණිය අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. ඉතින් මේ බුද්ධ ශාසනය ගැන කොච්චර හිත් පහන් කරගන්න පුලුවන්ද පින්වතුනේ බණ පද අහනකොට බුදු සසුනේ ජීවිත සැපවත් වෙච්චි හැටි. සාමාන්‍යයෙන් බලන්න මේ ලෝකයේ අපි සාමාන්‍යයෙන් ලෝකය ගැනම තොරතුරු දැන් අපිට ලැබෙනවා, ඒ රූපවාහිනී වලින් අන්තර්ජාලය තුලින් ලෝකෙ ගැනම තොරතුරු අහන්න ලැබෙනවා. ඒ අහනකොට ලෝකෙ මිනිස්සුන්ගේ දුක්ඛාන්ත, මිනිස්සු විඳවන ගිනි කොච්චරක් අපිට අහන්න ලැබෙනවාද. ඒ ගිනි එක්කම ජීවත් වෙලා ගිනිත් එක්කම මැරිලා යනවා. ඇයි හේතුව, ගිනි නිවාගන්න සැනසෙන්න දෙයක් නෑ. ගිනි නිවාගෙන හිත සනසාගන්න දෙයක් නෑ. මේ ලංකාභූමියේ ඉපදිච්චි අතලොස්සක් වන අපි කීප දෙනාට තමයි මේ බුදු කෙනෙකුගේ සරණක්, බුදු කෙනෙකුගේ බණ පදයක්, සත්‍ය වූ සිත් සනසන බණ පදයක් අහන්න ලැබිලා තියෙන්නෙ. ඒ ලැබිච්ච එකේ වාසනාව මෙපමණයි මෙපමණයි කියලා කෙළවර කරන්න බෑ. අපිට බුදුරජාණන් වහන්සේගේ ධර්මය අහන්න ලැබුනා, මේ සවන්

කොච්චර පින් කරලා තියෙනවාද. කරුණාවෙන් අනුකම්පාවෙන් බුද්ධ වචනය විකෘති කරන්නේ නැතිව කියාදෙන කල්‍යාණමිත්‍රයො ඔබට මුණගැහුනා. මේ කන් කොච්චර පින් කරලා තියෙනවාද. ඒ බුදුරජාණන් වහන්සේගේ ධර්මය අහනකොට භාග්‍යවතුන් වහන්සේගේ ගුණ අපිට අහගන්න ලැබෙනවා. මේ සවන්පත් කොච්චර පින් කරලා තිබුනද. ඒ බුදුරජාණන් වහන්සේගේ උතුම් දෙතිස් මහා පුරුෂ ලක්ෂණ අහනකොට අපිට ඒ බුදුරජාණන් වහන්සේව හිතේ මැවෙනවා. ඊළඟට කල්‍යාණමිත්‍රයො නිසාම සත්පුරුෂයො නිසාම ඒ භාග්‍යවතුන් වහන්සේ ඇත්තටම දෙතිස් මහා පුරුෂ ලක්ෂණ වලින් යුක්තව මේ විදියටයි වැඩ ඉන්න ඇත්තේ කියලා හිතෙන තරම් ලස්සන පිළිම වහන්සේලා අපිට අපේ ඇස් වලින් බලලා වන්දනා කරන්න ලැබුනා. මේ දෑස් යුග කොච්චර පින් කරලා තියෙනවාද. ඒ පිළිම වහන්සේලා අභියස භාග්‍යවතුන් වහන්සේගේ ගුණ හිත හිත සාදු සාදු කියලා වදින්න, සෑරජාණන් වහන්සේලා අභියස බෝධීන් වහන්සේලා අභියස වන්දනා මාන කරන්න මේ හැමදේටම අපිට අවස්ථාව උදාවුනා. ඒ නිසා පින්වතුනේ මේ ලැබිච්චි අවස්ථාව අපි තේරුම් ගන්න ඕන. තේරුම් අරගෙන මේ කල්‍යාණ මිත්‍ර ඇසුරේ හොඳට පින් පුරාගන්න දක්ෂ වුනොත් දහම් මග දියුණු කරගන්න දක්ෂ වුනොත් අසත්පුරුෂයන්ගේ ආශ්‍රයට වැටෙන් නැතිව බේරුණොත් අපිට මේ මනුස්ස ජීවිතේ විශාල යහපතක් අපේ ජීවිතේට එකතු කරගන්න පුලුවන් වෙයි. ඒ නිසා මේ වාසෙට්ඨී තෙරණිය තමන්ගේ ජීවිතයට යහපත උදා කරගෙන ගෞතම ශාසනය තුළ නිවනින් සැනසිච්චි ඒ උත්තමාවියට නමස්කාර කරමින් අපි අධිෂ්ටාන ඇති කරගනිමු බුදුරජාණන් වහන්සේගේ සරණ, ධර්මයේ සරණ, ශ්‍රාවක සඟරුවනේ සරණ මුණගැහිච්චි මේ දුර්ලභ මනුස්ස ජීවිතේ අපිටත් බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ රැකවරණ සලසාගෙන රහතන් වහන්සේලා නිවී සැනසුන රහත් තෙරණින් වහන්සේලා නිවී සැනසුන අමා නිවනේ සැනසෙන්න වාසනාව ලැබෙන්වා. සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් සියලු දෙවියෝ අනුමෝදන් වෙත්වා, දෙවියෝ පින් අනුමෝදන්ව දිව්‍ය සැපයෙන් වැඩෙත්වා. ඒ දෙවියන්ගේ ආශිර්වාදය ආරක්ෂාව අපි හැමදෙනාට දෙවියෝ සලසත්වා. දෙවියෝද සංසාර දුකින් අතමිදේවා, සාදු සාදු සාදු!!! රැස් කල සියලු පුණ්‍ය ධර්මයන් ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව නිරෝගීව දීර්ඝායුෂ ලබත්වා. ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ

වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද දවසේ ධර්ම දානමය පින්කම සිදු කරන ඒ පින්වත් මහත්මියගේ නමින් මියපරලොව යන්න යෙදුනු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන් වෙත්වා. ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා. මේ දුක් සහිත සසර ගමනින් ඒ ඥාතීන් සියලු දෙනා ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදනා සිදු කරන්න. කොරෝනා වෛරසය හේතුවෙන් රෝගාතුර වී සිටින ලංකාවාසී ලෝකවාසී හැමදෙනාට ඉතා ඉක්මණින්ම නිදුක් නිරෝගී සුව ශාන්තිය සැලසේවා කියන අදහසින් අපි පුණ්‍ය ප්‍රාර්ථනා එක් කරමු. අද ධර්ම දානය සිදු කරනු ලබන ඒ පින්වත් මහත්මියගේ සුජීවත්ව සිටින මෑණියන්ටත්, පියාණන්ටත් මේ සියලූම පින් අනුමෝදන් වෙලා නිදුක් නිරෝග සුව සැලසේවා. දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. දායකත්වය දැරූ උපාසිකාවටත් පවුලේ සියලු දෙනාටත් නිවන් දකිනා ජාති දක්වාම නිරතුරු කල්‍යාණමිත්‍ර ඇසුරම ලැබේවා. අසත්පුරුෂයන්ගේ ආශ්‍රය නම් කිසිකලෙකත් ජීවිතයට මුණ නොගැහේවා. කිසීම කරදරයකින් බාධාවකින් තොරව සුවසේ දහම් මග දියුණු කරගන්න අවකාශ සැලසෙත්වා කියන ප්‍රාර්ථනාව එකතු කරනවා. ඉතින් අද ධර්ම දානය සිදු කලේ විශේෂයෙන් ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේගේ උතුම් ධර්ම ප්‍රචාරය නිසා මීට වර්ෂ 20 කට පෙර මහමෙව්නා භාවනා අසපුව සංචිතයට සහසම්බන්ධ වෙලා මේ බුදුරජාණන් වහන්සේගේ ධර්මයේ පිළිසරණ ලැබූ තැනැත්තියක් විදියට ඒ කාරණය හිතේ දරාගෙනයි අද දවසේ මේ ධර්ම දානමය පින්කම සිදු කලේ. ඉතින් ඒ ධර්මදානය සිදු කලා වූ පින්වත් උපාසිකාවටත්, එතුමියගේ පවුලේ සෑම සියලු දෙනාටත් මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. සියලු යහපත සියලු අභිවෘද්ධිය සැලසේවා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ හැමදෙනාටත් ඒ වගේම සුපින්වත් ඔබ සෑම සියලු දෙනාටත් පින් අනුමෝදන් වෙලා තෙරුවන් සරණ සියලු දෙවියන්ගේ රැකරවණ ඔබ හැමදෙනාගේ ජීවිතයට ලැබෙත්වා. මේ ලැබුනු කල්‍යාණමිත්‍ර ඇසුර සත්පුරුෂ කිසිකලෙකත් ඔබගේ ජීවිතයෙන් අහිමි නොවෙත්වා. සුවසේ ගුණ පුරාගෙන සුවසේ දහම් මග දියුණු කරගෙන ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න හැමදෙනාටම වාසනාව ලැබෙත්වා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද දවසේ මේ දේශනාව සඳහා දායකත්වයන් දරණු ලබන්නේ උපන්දිනය යෙදුනු පින්වත් හසිනි උදයංගනී පෙම්වතියට සෙත් ප්‍රාර්ථනා කරන අදහසින් කොරියාවේ සේවයේ නියුතු පින්වත් රොෂාන් මහත්මා විසින්. එතුමා බලාපොරොත්තු වෙනවා ඒ උපන්දිනය යෙදුනු පෙම්වතියට සෙත්පැතීමත් ඒ වගේම දෙමව්පියන් ඇතුළු වැඩිමහල් සහෝදරයාට බාල සහෝදරයාට, ගංගා, සිඟිති, ඉසංක යන සහෝදර සහෝදරියන් ඇතුලු පවුලේ හැමදෙනාට මේ ධර්ම දානයේ ආශිර්වාදයෙන් නිදුක් නිරෝග සුව ශාන්තිය සැලසෙත්වා කියන අදහසිනුයි අද දවසේ ධර්ම දානමය පින්කම මේ විදියට සිද්ධ කරන්නෙ. අද ධර්ම දේශනාවෙන් අපි ශ්‍රවණය කරන්නෙ මේ බුද්ධ ශාසනයේ භික්ෂුණී සංඝයා අතරේ වැඩ හිටපු මහා ශ්‍රාවිකා උත්තමාවියක් ගැන. ඇය තමයි මේ ගෞතම බුද්ධ ශාසනයේ භික්ෂුණී සංඝයා අතරේ ප්‍රඥාවෙන් අග්‍රේෂ්වර වුනේ. ඒ කවරෙක්ද ඒ උත්තමාවිය? ඛේමා අර්හත් තෙරණින් වහන්සේ. අද අපි ඉගෙන ගන්නෙ ඛේමා අර්හත් තෙරණින් වහන්සේගේ ඒ පින්වන්ත චරිතාපදානය. ඒ චරිතාපදානය සම්බන්ධයෙන් අපේ බණ පොත් වල සඳහන් වෙන්නෙ පදුමුත්තර බුද්ධ ශාසනයේ සිට. මීට කල්ප ලක්ෂයකට පෙර මේ ලෝකයට පහළ වුනා දෙව් මිනිස් ලෝ සතුන් කෙරෙහි මහා අනුකම්පා ඇති පදුමුත්තර අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ. පදුමුත්තර බුදුරජාණන් වහන්සේ පහළ වෙන කාලයේත් මැය ස්ත්‍රියක්. ඒ කාලෙ බුදුරජාණන් වහන්සේ සද්ධර්මය දේශනා කරනකොට ඇයත් යනවා බණ අහන්න. දවසක් බණ අහන්න ගිහිල්ලා ඉද්දි ඇයට දැනගන්න ලැබුනා ඒ පදුමුත්තර බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ ප්‍රඥාවෙන් අග්‍රේෂ්වර භික්ෂුණිය ගැන. ඇයටත් හිතක් උපන්නා අනේ මා හටත්

අනාගත බුද්ධ ශාසනයක භික්ෂුණී සංඝයා අතරේ පැවිදි වෙලා ප්‍රඥාවෙන් අග්‍ර භික්ෂුණිය බවට පත්වෙලා අමා නිවනෙන් සැනසෙන්න ඇතිනම් කොච්චර හොඳද කියලා හිතක් ඇයට උපන්නා. ඉතින් මහා ශ්‍රාවක ශ්‍රාවිකාවො ගැන කතා කරනකොට මේ විදියේ පින් සිතුවිලි ඒ මහා ශ්‍රාවක ශ්‍රාවිකාවන්ගේ ජීවිතයට බැඳිලා තියෙනවා. ඒක ගැන අපි තේරුම් ගන්න ඕන කොයි විදියටද පින්වතුනේ ඒ මහා ශ්‍රාවක ශ්‍රාවිකාවන්ගේ ජීවිතයේ තියෙන විශේෂත්වයක් විදියට. එතකොටයි ඒ උත්තමාවියො ගැන ඒ උත්තමයො ගැන අපේ හිත ගොඩාක් පහදින්නෙ. ඉතින් මේ පින්වන්ත කාන්තාව මේ ප්‍රාර්ථනාවෙන් යුක්තව ගොඩක් පින් කලා. ඒ පින් කරගෙන ආපු ගමනේ විපස්සී බුදුරජාණන් වහන්සේගේ ශාසනය මීට කල්ප අනූවකට පෙර හමුවුනා. ඒ බුද්ධ ශාසනෙත් පින් කෙරුවා. ඊටපස්සෙ මේ මහා භද්‍ර කල්පයේම කෝණාගම බුදුරජාණන් වහන්සේගේ ශාසනය මුණගැහුනා. ඒ බුද්ධ ශාසනයේත් පින් පිරුවා. මේ මහා භද්‍ර කල්පයේ කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ ශාසනය මුණගැහුනා. ඒ බුද්ධ ශාසනයේත් පින් පිරුවා. එතකොට මේ චරිතාපදානය දිහා හැරිලා බලනකොට අපිට තේරෙනවා පින්වන්ත මනුස්සයා තමන්ගේ ජීවිතයට පින් කරගන්න ලැබෙන අවකාශයේදී ප්‍රමාද නොවී පින් කරගන්නවා. ඒ පින් කරගනිද්දී ඒ කෙනාට යලිත් පින් කරගන්න අවස්ථාව හැදෙනවා. බලන්න පදුමුත්තර බුද්ධ ශාසනයේ පින් කරගත්ත කෙනාට යළි පින් පුරාගැනීම පිණිස විපස්සී බුද්ධ ශාසනය මුණ ගැහෙනවා. පදුමුත්තර බුද්ධ ශාසනයේදී පින් කරගත්තෙ නැත්නම් විපස්සී බුද්ධ ශාසනය මුණගැහීම ගැන කතාවක් නෑ. පදුමුත්තර බුදු සසුනේදී පින් කරගත්ත නිසා විපස්සී බුද්ධ ශාසනයේ පින් කරගන්න අවස්ථාව ලැබුනා. ඒ අවස්ථාව ලැබිච්ච මොහොතේ සත්පුරුෂ ඇසුරේ විපස්සී බුදු සසුනේ පින් කරපු නිසා මේ මහා භද්‍ර කල්පයේ කකුසඳ බුදුරජාණන් වහන්සේගේ ශාසනය මුණගැහුනා, ආයෙත් පින් පුරාගන්න. එතකොට පින් පුරාගන්න අවස්ථාවක් යම් කෙනෙකුට උදාවෙනවා නම් ඒ උදාවෙන මොහොතේ ප්‍රමාද නොවී පින් කරගන්න ඕන. පමා නොවී පින් කරගත්තොත් යලි පින් කරගන්න අවකාශ ලැබෙයි. ඒක තමයි අපි තේරුම් ගත යුත්තේ මේ චරිතාපදාන ඉගෙන ගන්නකොට. ඉතින් එහෙම පින් පුරාගෙන පැමිණිලා තමයි මේ ජීවිතයේ මධුරට සාගල කියන නගරයේ මද්ධව කියලා රජෙක් රාජ්‍යය කලා. ඔය මද්ධව රජ්ජුරුවන්ගේ දුව විදියට ඛේමාව උපදිනවා. පුදුමාකාර ලස්සන රූප සෝභාවක්. දුටු දුටුවන්ගේ නෙත් සිත් වසඟ කරවන වශී වෙලා යන රූපයක් මේ ඛේමාවට තිබුනෙ. තරුණ වයසට එනකොට දුටුවන්ගේ සිත් වසඟ කරන

තරම් තමන්ගේ රූපය ලස්සන නිසා හරි ආඩම්බරයි රූපෙට. හරි ආඩම්බරයි රූපෙට අනිත් අයන්ව ගණන් ගන්නෙ නෑ. අනිත් ස්ත්‍රීන්ව ගණන් ගන්නෙ නෑ, මං තමයි ගොඩාක් හැඩ කෙනා, මං තමයි ගොඩාක් ලස්සන කෙනා, මගේ රූපය නොවැ ලස්සන, මගේ ඇස් නොවැ ලස්සන, මගේ ඇහිබැම නොවැ ලස්සන, මගේ කේශ කලාපය නොවැ ලස්සන, මගේ ඡවි වර්ණය නොවැ ලස්සන කියලා මෙහෙම රූපයෙන් සතුටු වෙවී හිටපු කෙනෙක්. තමන්ගේ රූපයෙන් තමන්ට ලැබිච්ච මේ ශරීරයෙන් සන්තෝෂ වෙවී ඒ ශරීරයෙන් උද්දාමයට පත්වෙවී හිටියා. ඉතින් තරුණ වයසේදී ඇය රජ කුලයක උපන්න නිසා ඇව විවාහ කරලා දුන්නේ මගධේෂ්වර සේනිය බිම්බිසාර රජ්ජුරුවන්ට. බිම්බිසාර රජ්ජුරුවන්ගේ අග්‍ර මහේෂිකාව බවට පත්වුනා. රජ කෙනෙකුගේ අග්‍ර මහේෂිකාව කියලා කියන්නෙ ඈ ඒ රටේ විශේෂ තැනැත්තියක්. ඈට ලැබෙන රාජකීය ශ්‍රී සම්පත් මැද ඈ තව තවත් තව තවත් රූපයෙන් මත් වුනා. රූපයෙන් මත්වෙනවා කියන කාරණය ගත්තහම පින්වතුනේ ඒක ඥාණවන්ත එකක් නෙවෙයි, ඒක ප්‍රඥාවන්ත එකක් නෙවෙයි. මේ හැමතිස්සේම අශුචි වැගිරෙන ශරීරය පිරිසිදු කර කර පිරිසිදු කර කර අපි තියාගන්නෙ. අපි හැමදෙනාම පෞද්ගලිකව ඒක දන්නවානෙ. අපි අපේ ශරීරය පිරිසිදු කරගන්නවා. පිරිසිදු කරගත්තේ නැත්නම් අපිටම ඒක වෙහෙසක්. අපි උදේම අවදි වෙලා හොඳට මූණ හෝදගන්නවා, දත් මැදගන්නවා, පිරිසිදු වෙනවා. දාඩිය හෝදගන්නවා, පිරිසිදු වෙනවා. ඒ පිරිසිදු වුනේ නැත්නම් ඒක අපිටත් අපහසුවක්. ඒක අනිත් අයටත් අපහසුවක්. අපි පිරිසිදුවට ඉන්නෙ මහන්සි ගන්නෙ ඇයි හැමතිස්සෙම? මේ ශරීරයෙන් නිතර අපිරිසිදු දේවල් වැහෙනවා. නිතර ගඳ සහිත දේවල්, අප්‍රිය දේවල් වැහෙනවා. ඉතින් එහෙම ශරීරයක්නේ මේක. එහෙම ශරීරය ගැන කෙනෙක් මහා ලොකුවට හිතුවොත් ඒක ඥාණවන්ත කමක්ද, මෝඩ කමක්ද? ඒක මෝඩකම, ඒක අඥාණකම. දැන් මේ ඛේමාව, ඛේමා බිසව, ඛේමා රාජ මහේෂිකාව ඒ මෝඩකමේ තමයි හිටියෙ. හැබැයි සේනිය බිම්බිසාර රජ්ජුරුවො බුදුරජාණන් වහන්සේගේ ධර්මය අහනකොට හිත පැහැදුනා. පැහැදිලා බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක භාවයට පත්වුනා. සෝතාපන්න ආර්ය ශ්‍රාවකයෙක්. දැන් බිම්බිසාර රජ්ජුරුවන්ට ගොඩාක් වටින්නෙ රාජකීය ශ්‍රී සම්පත් නෙවෙයි, බිම්බිසාර රජ්ජුරුවන්ට වටින්නේ බලයත් නෙවෙයි. බිම්බිසාර රජ්ජුරුවො දැන් දන්නවා වටින්නේ මොකක්ද කියලා. වටින්නේ බුදුරජුන් සරණ යෑම බව, වඩාත් වටින්නේ ධර්මය සරණ යෑම බව, වඩාත් වටින්නේ සඟරුවන සරණ යෑම බව දැන් රජ්ජුරුවො දන්නවා. ඒ නිසා

රජ්ජුරුවො තමන් ආදරය කරපු තමන්ට ලෙන්ගතු හැමකෙනෙක්වම ඒ සරණේ පිහිටුවන්න තමයි මහන්සි ගත්තේ. රජ්ජුරුවො නොයෙක් අයව බුදුරජාණන් වහන්සේගේ සරණට යොමු කලා. හැබැයි රජ්ජුරුවන්ට හරී අමාරු වුනා ඛේමා අග්‍ර මහේෂිකාවව භාග්‍යවතුන් වහන්සේට යොමු කරන්න. ඇයි යොමු කරන්න බැරි, ඛේමාව කලින්ම අහලා තිබුනා දාසියකගෙන් වැරදි කතාවක්. ඒ දාසි මහ මෝඩ තැනැත්තියක්. ඒ දාසි බුදුරජාණන් වහන්සේගේ ධර්මය ගැන වැරදි කතාවක් ඛේමාවගේ කනේ තිබ්බා. ආපෝ අපේ දේවීන් වහන්ස, ඔබවහන්සේ වගේ ලස්සන කෙනෙක් නම් ඒ බුදුරජාණන් වහන්සේ ළඟට යන්න එපා. ඒ බුදුරජාණන් වහන්සේ මේ රූපයේ ඇද කුද කියන කෙනෙක්නෙ. ලස්සනට ඉන්නවට අකැමැති කෙනෙක්නෙ. ලස්සන රූපයේ කුණු වැහෙනවාලු කුණු වැහෙනවාලු කිය කියා කියවන කෙනෙක්නෙ. ඒ නිසා ඔබ වහන්සේ වගේ ලස්සන කෙනෙක්, ඔබවහන්සේ වගේ හැඩට ඉන්න කෙනෙක් නම් ඒ බුදුරජාණන් වහන්සේ ළඟට යන්න එපා. මොකට නිකං බැනුම් අහන්නෙ කිව්වා. එතකොට රූපයෙන් මත්වෙලා ඉන්න ඛේමා, මේක ගත්තා. හරි පුදුම සහගතයි පින්වතුනේ මේ බුද්ධ ශාසනයේ චරිතාපදාන අපි ඉගෙන ගන්නකොට මේ බුද්ධ ශාසනයේ ප්‍රඥාවෙන් අග්‍ර භික්ෂුණිය බවට පත්වෙන කෙනා බුදුරජාණන් වහන්සේ මුණගැහෙන්න කලින් ඉන්නෙ මහාම මහා මෝඩ තැනැත්තියක් විදියට. තමන්ගේ රූපෙ ගැන මත්වෙලා. තමන්ගේ රූපය ගැන මත්වෙලා, රූපය සරස සරසා, හැම තිස්සේම මේකප් කර කර තමයි දැන් ඛේමාව ඉන්නෙ. මෙහෙම ඉන්නකොට රජ්ජුරුවො කල්පනා කරනවා මං වගේ බුදුරජාණන් වහන්සේ සරණ ගිය උපාසකයෙක් වන රජෙකුට අග්‍ර මහේෂිකාව විදියට  ඉන්න කෙනා බුදුරජාණන් වහන්සේ දකින්නවත් යන්නෙ නෑ. මේක මටත් අවනම්බුවක්. මේක කොහොමද විසඳන්නේ කියලා රජ්ජුරුවො හිතනවා. රජ්ජුරුවො අවස්ථා කීපයකදීම ඛේමාවට කිව්වා, ඛේමාවෙනි, භාග්‍යවතුන් වහන්සේ සමීපයට ගිහිල්ලා බණ පදයක් අහලා හිත සනසාගෙන එන්න කියලා. කිව්වාට අහන්නෙ නෑ. පස්සෙ රජ්ජුරුවො මේ ගැන කල්පනාවෙන් ඉන්නකොට රජ්ජුරුවන්ව සතුටු කරන්න වන්දිභට්ටයො ගීතයක් හදලා තිබුනා. වන්දිභට්ටයො කියලා කියන්නෙ රජුව සතුටු කිරීම පිණිස ගායනා වාදනා කරන පිරිස. එතකොට ඒ ගොල්ලො ලස්සන සින්දු හදලා ඩොල්කි ගහලා නලා පිඹලා ඒ සින්දු කියනවා. ඉතින් ඒ සින්දු කියනකොට රජ්ජුරුවො ඒකෙන් සන්තෝෂයට පත්වෙනවා. දවසක් මේ ගොල්ලො ගීතයක් කිව්වා. මේ ගීතයට රජ්ජුරුවන්ගේ හිත ගියා. රජ්ජුරුවො

කල්පනා කලා මේක යස වැඩේ. මෙහෙම ලස්සන ගීත හදවන්න ඕන රජගහනුවර වේළුවනාරාමය ගැන. හදවලා වන්දිභට්ටයො ලවා ගායනා කෙරෙව්වොත් වේළුවනාරාමයේ සිරි නරඹන්න යන්න ආසාවක් මේ අපේ ඛේමාවට එන්න පුලුවන්. රජ්ජුරුවො හොරාටම වන්දිභට්ටයො ටික ගෙන්නුවා. ගෙන්නලා කිව්වා උඹලා හදන්න ඕන මං පූජා කරපු වේළුවනාරාමය ගැන ලස්සන ගීත. ඒ හදන ගීත වලට හොඳ තනු හදලා හිත පහදින විදියට ඔයගොල්ලො ගායනය කරන්න ඕන. අදින් පස්සෙ එකදිගට නුඹලා ගායනා කළ යුත්තෙ වේළුවනාරාමයේ අසිරියයි. ඉතින් ඔන්න වන්දිභට්ටයො රමණීය වේළුවනාරාමය කියලා කවි ලියන්න පටන් ගත්තා. දැන් වේළුවනාරාමයේ මල් ගැන වන්දිභට්ටයො සින්දු කියනවා. වේළුවනාරාමයේ තියෙන පොකුණු ගැන සින්දු කියනවා. වේළුවනාරාමයේ තියෙන සිහිල් රුක් සෙවණ ගැන සින්දු කියනවා. වේළුවනාරාමයේ තියෙන උණ ගස් ලෙලදෙන හැටි එහෙම සින්දු කියනවා. ලේන්නු කුරුල්ලො කිචිබිචි ගගා ඉන්න හැටි, එහෙම සින්දු කියනවා, දැන් එක දිගට රජ්ජුරුවන්ගේ මාළිගාවේ අහන්න ලැබෙන ගායනය වේළුවනාරාමයේ වර්ණනාව. මේක අහන්න ලැබෙනකොට අහන්න ලැබෙනකොට ඛේමා අග්‍ර මහේෂිකාවට හිතක් උපන්නා අප්පේ ඔච්චර ලස්සනයිද එය වේළුවනාරාමය, ඔය කියන තරම්ම හැඩ තැනක්ද ඔය වේළුවනාරාමය. එහෙනම් ඉතින් මං මේ රජ්ජුරුවන්ගේ රාජ මහේෂිකාව වෙලා ඉද්දි මෙහෙම වේළුවනාරාමය මං දැකලා නැත්නම් මෙච්චර ලස්සන තැනක් මං දැකලා නැත්නම් ඒක මට හරි මදි. මාත් එහෙනම් අවසරයක් අරගෙන රජ්ජුරුවන්ගෙන් වේළුවනාරාමය බලන්න යන්න ඕන කියලා ඛේමාවට හිතෙනවා. රජ්ජුරුවන්ගේ උපාය වැඩකලා. ඛේමා අවසරයක් පතනවා රජ්ජුරුවන්ගෙන් රජතුමනි, වන්දිභට්ටයො කියපු ඒ ලස්සන කවි පද මං අහන් හිටියා. මටත් හිතක් උපන්නා වේළුවනාරාමය බලන්න යන්න. අනේ ඔබ වහන්සේ අවසරයක් දෙනවා නම් මං වේළුවනාරාමාය බලන්න යන්නම් කිව්වා. රජ්ජුරුවො අත්පුඩියකුත් ගහලා එකපයින් කැමැති වුනේ. හොඳයි කිව්වා, යසයි කිව්වා, වේළුවනාරාමය කියන්නෙ බොහොම ලස්සන තැන. ඔබ හිතේ හැටියට සන්තෝෂ වෙලා සිරි නරඹලා එන්න කිව්වා. ඒ ඛේමා ඉතින් ලස්සනට සැරසිලා තමන්ගේ පරිවාර කාන්තාවොත් එක්ක වේළුවනාරාමය බලන්න යනවා හැබැයි ඛේමා දන්නවා වේළුවනාරාමයේ තමයි බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්නෙ. බුදුරජාණන් වහන්සේව කොහෙන් හරි මුණ ගැහෙයි කියලා සේවිකාවන්ටත් කියලා තිබුනා හදිසියේ හරි කවුරුහරි එනවා නම් මට කියාපං

කවුද කියලා බලලා. බුදුරජාණන් වහන්සේ එහෙම නම් අපි ඉක්මණට මෙතනින් යන්න ඕන. දැන් මේ වේළුවනාරාමය ඇත්තටම වන්දිභට්ටයො කිව්වා වගේම ලස්සනයි. රජ්ජුරුවො රජ්ජුරුවන්ගේම වියදමින් බොහෝම රමණීය විදියට කරවලානෙ පූජා කලේ. ඇත්තටම ලස්සනයි. ඛේමා සිරි නරඹමින් සතුටු වුනා. සතුටු වෙද්දි හැබැයි හැමතිස්සෙම බයක් තියෙනවා බුදුරජාණන් වහන්සේ හම්බවෙයි වත්ද, බුදුරජාණන් වහන්සේ මුණගැහෙයිවත්ද. රූපයේ ඇද කුද කියන කෙනා මුණ ගැහෙයි වත්ද. භයක් තිබුනා. අවසානෙ ඛේමා තීරණය කරනවා දැන් ඇති බැලුවා. තමන්ගේ පරිවාර සේවිකාවොත් එක්ක පිටවෙලා යන්න හැදුවා. හදද්දි රාජපුරුෂයො කියනවා හා හා මහාදේවීන් වහන්ස එහෙම යන්න බෑ. ඇයි මොකද බැරි කියලා ඇහුවා. මහාදේවීන් වහන්ස රජ්ජුරුවන්ගේ රාජ අණක් තිබේ. වේළුවනාරාමය ඇතුලට යමෙක් පැමිණුනා නම් ඒ වේළුවනාරාමය දැන් පූජා කරලා තියෙන්නෙ බුදුරජාණන් වහන්සේට, බුදුරජාණන් වහන්සේට තමයි මේක අයිති. ඒ නිසා වේළුවනාරාමය ඇතුලට පැමිණි කෙනා බුදුරජාණන් වහන්සේ ළඟට ගිහිල්ලා වන්දනාමාන කරලා මිසක් එළියට බහින්න බෑ කියලා රජඅණක් තියෙනවා. ඒ නිසා දේවීන් වහන්ස, ඔබවහන්සේට නිකං නම් යන්න දෙන්න බෑ කිව්වා. දැන් මේ ඔක්කොම රජ්ජුරුවන්ගේ සැලසුම්. බලන්න නේද සරණ ලැබූ කෙනෙක් තවත් කෙනෙකුට සරණ දෙන්න කරපු දේ. අනුකම්පාව නිසා. රජ්ජුරුවො කියලා කියන්නෙ සෝතාපන්න ශ්‍රාවකයෙක්. සෝතාපන්න වෙච්චි ශ්‍රාවකයා දන්නවා මේ ලෝකයේ බුදුසරණට, දහම් සරණට, සඟසරණට වඩා වෙනත් සරණක් නම් නැත. වෙනත් පිහිටක් නම් නැත. වෙනත් ලාභයක් නම් නැත. පතව්‍යා ඒක රජ්ජෙන - මේ මුළු මහත් පෘථිවියටම රජ වෙනවාට වඩා, සග්ගාය ගමනේන වා - දෙව්ලොව දිව්‍ය රාජයට පත්වෙනවාට වඩා, සබ්බලෝකාධි පච්චෙන - මේ ලෝකයටම මේ තුන් ලෝකයටම අගරජ වූ මේ තුන්ලෝකයටම අධිපතියා වූ මහාබ්‍රහ්මයා වෙනවාට වඩා, සෝතාපත්ති ඵලං වරං - සෝතාපත්ති ඵලයට පත්වීම උතුම්ය. එහෙමනේ ධර්මයේ සඳහන් වෙන්නෙ. මේ සෝතාපත්ති කෙනාට මේ අනිත් ලාභ, අනිත් වටිනාකම් දූවිල්ලක් තරම්වත් වටින් නෑ. බුදුරජාණන් වහන්සේගේ සරණමයි වටින්නෙ. ධර්මයේ සරණමයි වටින්නෙ. සඟරුවනේ සරණමයි වටින්නෙ. එතකොට ඛේමා බිසවුන් වහන්සේට ඒ රජ්ජුරුවන්ගේ උපාය නිසා භාග්‍යවතුන් වහන්සේ ඉදිරියට යන්න සිද්ධ වුනා. දැන් ඉතින් මරණයට එකතු කරගෙන යනවා වගේ රාජපුරුෂයො එල්ලගෙන වගේ තමයි එක්කන් ගියෙ. එකතු කරගෙන යනකොට අර

සේවිකාවගෙන් අහන්න ලැබිච්ච ස්වභාවයට වඩා හාත්පස වෙනස් එකක් ඇයට දුරදීම පේන්න ගත්තා. ඇයව භාග්‍යවතුන් වහන්සේ ළඟට එකතු කරගෙන යනකොට බුදුරජාණන් වහන්සේ පිරිසට දහම් දෙසනවා. දහම් දෙසන භාග්‍යවතුන් වහන්සේ පිටුපස දෙව්ලියක් බඳු ස්ත්‍රියක් භාග්‍යවතුන් වහන්සේට පවන් සලන හැටි ඛේමාට පේනවා. ඇත්තෙන්ම ඛේමාව බුදුරජාණන් වහන්සේ දැක්කෙ නෑ, ඇය දැක්කෙ අර ස්ත්‍රී රුවයි. ඒ ස්ත්‍රිය දිහාම බලාගෙන ගිහිල්ලා තමන් දන්නෙත් නෑ වාඩිවුනා. වාඩිවෙලා දැන් ඇස් දෙකත් ලොකු කරගෙන කටත් අයාගෙන බලාගෙන ඉන්නවා අර ස්ත්‍රී රූපය දෙස. ඒ ස්ත්‍රී රූපය භාග්‍යවතුන් වහන්සේ විසින් ඍද්ධියෙන් මවන ලද්දක්. ඒ ඍද්ධියෙන් මවන ලද ස්ත්‍රිය බුදුරජාණන් වහන්සේට පවන් සලමින් ඉන්නවා. දැන් ඛේමා මේ ඉතා රූප ශ්‍රී ඇති ස්ත්‍රියව තමන්ට සංසන්දනය කර කර බලනවා. ඛේමා බලනවා එයාගෙ කොණ්ඩෙ ද ලස්සන, මගේ කොණ්ඩෙද. ඛේමා හිතන්නත් අකමැතියි, තමන්ගේ කොණ්ඩෙට වඩා එයාගේ කොණ්ඩෙ ලස්සනයි. මගේ ඇස් දෙකට වඩා එයාගේ ඇස් දෙක හරී ලස්සනයි. මගේ ඇහිබැමි වලට වඩා එයාගේ ඇහිබැමි හරි ලස්සනයි. මගේ හිනාවට වඩා එයාගේ හිනාව කොච්චර ලස්සනද. මෙහෙම දැන් එකින් එක අඟ පසඟ ඇ හොඳට බල බල ඉන්නවා. ඒ රූපෙට ඇ වසඟ වුනා. ඇ රූපෙට වසඟ වී සිටියදී බුදුරජාණන් වහන්සේ ඍද්ධි පෙළහරක් කරනවා. අර රූපය ටික ටික, ටික ටික වැහැරෙනවා. සාමාන්‍යයෙන් මේ ජීවිතය ගත කරනකොට අපේ රූපයට කාලයක් ගිහිල්ලා වෙන දේ බුදුරජාණන් වහන්සේ පොඩි වෙලාවකින් වෙන්න සැලැස්සුවා. දැන් අර ස්ත්‍රී රුව අනුක්‍රමිකව වැහැරෙන්න පටන් ගත්තා. බැබලි බැබලී තිබුනු හම රැලි වැටුනා. ඇගේ සිනාව අතුරුදහන් වුනා. ඇගේ කටේ තිබුනු සිනහවේදී දිලිසෙන ලස්සන දත් ඒ දත් නැතිව ගියා. ඇස් දෙක තිබුනා බැබලි බැබලි, ඒ ඇස් දෙක බොර පාටට හැරුනා. ලස්සන හැඩට දේදුන්න වගේ ඇහි දෙබැම තිබුනා. ඒ ඇහිබැමි එල්ලා වැටුනා. නාහෙ වකුටු ගැහුනා. ශරීරෙත් කුදු වුනා. අවසානයේ කෙලින් හිටගෙන ඉන්න පණ නැතිව ඇදගෙන වැටුනා. ඇදගෙන වැටෙනකොට ඒ මවන ලද ස්ත්‍රී රුව ඇදගෙන වැටෙනකොට ඛේමාවගේ මෝඩකමත් ඇදගෙන වැටුනා. ඛේමාව යම් විදියකට මේ රූපයට වසඟ වෙලා හිටියාද, ඒ ඔක්කොම එක සැණෙකින් ඇ අත්හැරියානෙ. ඒක තමයි ඉතින් ප්‍රඥාව. ඒක තමයි ප්‍රඥාව, ප්‍රඥාවන්ත තැනැත්තෙක් තවත් නුවණැත්තෙක්ව ඇසුරු කලොත් ඒ නුවණැත්තන්ගේ දහම වහා අවබෝධ කරගන්නවා කියලානෙ බුදුරජාණන් වහන්සේ වදාළේ. නුවණැති කෙනෙකුගේ

ස්වභාවය ගැන බුදුරජාණන් වහන්සේ වදාළා ධම්ම පදයේදී මොහොත්තං පිචේ විඤ්ඤූ පණ්ඩිතං පයුරුපාසති - නුවණැති කෙනෙක් එක මොහොතක් වෙන්න පුලුවන් පණ්ඩිතයෙක්ව, ඥාණවන්තයෙක්ව ඇසුරු කරන්නෙ. කිප්පං ධම්මං විජානාති ජිව්හා සූපරසො යතා - වහා නුවණැත්තන්ගේ දහම අල්ලනවා හරියට ඉක්මණින් හොද්දේ රස අඳුනගන්න දිවක් වගේ. ඛේමා කියලා කියන්නෙ එහෙම ප්‍රඥාවන්ත තැනැත්තියක්. බුදුරජාණන් වහන්සේගේ මහා කරුණාව නිසා, බුදුරජාණන් වහන්සේ ඍද්ධියෙන් කරපු පෙළහරින් ඇය දමනය වුනා. ඇයට තේරුණා ජීවිතේ ස්වභාවය. අර දෙව්ලියක් බඳු තමන්ටත් වඩා ලස්සන ස්ත්‍රී රුවටත් උරුම වුනේ මේ ඉරණම නම් තමන්ගේ රූපය ගැන කවර කතාද කියලා ඇයට තේරුනා. ඇය අසරණ වෙලා, අසරණ වූ දෑසින් බුදුරජාණන් වහන්සේ දෙස බලනවා. ඒ බලද්දී භාග්‍යවතුන් වහන්සේ ඛේමා බිසවුන් වහන්සේට මෙන්න මේ ගාථාව මෙන්න මේ එකම එක ගාථාව භාග්‍යවතුන් වහන්සේ වදාළා. යේ රාග රත්තානු පතන්ති සෝතං සයං කතං මක්කටොකො ජලං ඒතංපි ඡිත්වාන වජන්ති ධීරා අනපෙක්ඛිනො සබ්බ දුක්ඛං පහාය - මේ රාගයට ඇලිලා, තෘෂ්ණා සැඩපහරට වැටිලා ඉන්නෙ තමා විසින්ම දැල වියාගෙන ඒක මැද්දටම වෙලා ඉන්න මකුළුවෙක් වගේ. නමුත් නුවණැති උදවිය සියලු දුක් නැතිකර දැමීමට කාමයන් කෙරෙහි අපේක්ෂා රහිත වෙලා කෙලෙස් බන්ධන සිඳගෙන නිවන කරාම යනවා කියලා බුදුරජාණන් වහන්සේ ගාථා වදාලා. මේ සත්වයෝ සංසාර ගමනට මුලාවෙන් මුලාවට පත්වෙලා අහුවෙලා ඉන්නෙ හරියට තමන්ම දැල වියාගෙන ඒ දැල මැද්දට වෙලා ඉන්න මකුළුවෙක් වගේ කියනවා. තමන්මයි දැල වියාගත්තෙ, තමන්ම ඒක මැද්දට වෙලා ඉන්නවා. මකුළුවෙක් වගේ. සංසාර ගමනේ යන සත්වයා මකුළුවෙක් වගේ, තමන්ම තමයි මේ සසර දුක ඔක්කොම වියාගෙන ඉන්නෙ. ඒක මැද්දට වෙලා තමන් ඉන්නවා. තමන්ම තමයි ඔක්කොම ප්‍රශ්නය හදාගන්නෙ. ඒක මැද්දට වෙලා තමන් ඉන්නවා. තමන්ම තමයි මුලාවේ දැල වියන්නෙ, දැල වියාගෙන මැද්දට වෙලා ඉන්නවා. නුවණ තියෙන කෙනෙක් බුදුරජුන්ගේ ධර්මය අහලා ඔය ඔක්කොම අත්හැරලා නිවන කරාම යනවා කියන ගාථාව භාග්‍යවතුන් වහන්සේ දේශනා කරද්දි ඛේමා බිසවුන් වහන්සේ ප්‍රඥාවන්තයි, නුවණින් කල්පනා කලා. ගිහි වස්ත්‍ර පිටින්, ගිහි වස්ත්‍ර පිටින් ඈ අනුපිළිවෙලින් මාර්ග ඵල සාක්ෂාත් කලා. අර්හත්වය පසක් කලා. ඇය ගිහි වස්ත්‍ර පිටින්ම අර්හත්වය පසක් කලා. දැන් සියලු වස්ත්‍රාභරණයෙන් සැරසිලා ඇය බුදුරජාණන් වහන්සේ ඉදිරියේ වාඩි වෙලා ඉන්නවා. හැබැයි ඒ ඉන්නෙ

අර්හත්වය පසක් කරපු තැනැත්තියක්. දැන් අපේ බිම්බිසාර මහරජ්ජුරුවන්ට ආරංචි වුනා මේ ඛේමා බිසවුන් වහන්සේගේ වෙච්ච පරිවර්තනය. ඉතින් රජ්ජුරුවන්ට හරී සන්තෝසයි තමන්ගේ උපාය වැඩ කලා කියලා. රජ්ජුරුවො හනි හනිකට වේළුවනාරාමයට එනවා. ඇවිල්ලා භාග්‍යවතුන් වහන්සේ ඉදිරියේ හරී සතුටු වුනා අනේ ස්වාමීනී මේ ඛේමාව භාග්‍යවතුන් වහන්සේ ඉදිරියට කැඳවාගෙන එන්නෙ කොහොමද කියලා මං හිත හිතා හිටියේ. අනේ ස්වාමීනී මේ වතාවෙ නම් මගේ උපාය වැඩ කලා කිව්වා. බුදුරජාණන් වහන්සේ වදාළා රජතුමනි ඛේමා මහා නුවණැති තැනැත්තියක්. දැන් මේ ඛේමාව අර්හත්වය පසක් කලා. රජතුමනි ඔබ විසින් යම් චතුරාර්ය සත්‍ය ධර්මයක් අවබෝධ කලාද, ඔබගේ අග්‍ර මහේෂිකාව වන මේ ඛේමාව ඒ චතුරාර්ය සත්‍ය ධර්මය පරිපූරණ වශයෙන්ම අවබෝධ කරලයි ඉන්නෙ. රජතුමනි අර්හත්වය පසක් කරපු කෙනෙක් එක්කො මේ බුදු සසුනේ පැවිදි වෙන්න ඕන, එහෙම නැත්නම් අද දවසේම පිරිනිවන් පාන්න ඕන කිව්වා. එතකොට රජ්ජුරුවො කිව්වා ස්වාමීනී මේ ඛේමා මේ බුදු සසුනේ භික්ෂුණී සංඝයා අතරේ පැවිද්ද ලබාවා. මං ඒ සඳහා අවසර දෙනවා කිව්වා. එතකොට රජුගේ අවසරය ලැබීමත් එක්ක ඛේමා බිසවුන් වහන්සේ භික්ෂුණී සංඝයා අතරේ පැවිදි වුනා. පැවිදි වුනේම රහත් තෙරණියක් විදියට. හරි ආශ්චර්යයි බුද්ධ ශාසනය. ඉතින් ඛේමා රහත් තෙරණින් වහන්සේ පස්සෙ කාලෙක බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ අගතනතුරු ලබනවා, ඒත දග්ගං භික්ඛවෙ මමසාවිකානං භික්ඛුණී නං - මහණෙනි මාගේ ශ්‍රාවිකා වූ භික්ෂුණී සංඝයා අතරෙ ප්‍රඥාවෙන් අශ්‍රේෂ්වර භාවයට පත්වෙන්නෙ, පඤ්ඤාවන්තානං යදිදං ඛේමා - ප්‍රඥාවෙන් අග්‍ර භාවයට පත්වෙන්නෙ මේ ඛේමාවයි කියලා බුදුරජාණන් වහන්සේ අග තනතුරු ප්‍රදානය කලා. බුද්ධ ශාසනය තුළ අග්‍රශ්‍රාවිකාවො විදියට ගත්තහම ඛේමා කියලා කියන්නෙ බුද්ධ ශාසනයේ අග්‍රශ්‍රාවිකාව. තවත් අග්‍රශ්‍රාවිකාවක් හිටියා උප්පලවණ්ණා රහත් තෙරණින් වහන්සේ. ඉතින් මේ ඛේමා අර්හත් තෙරණින් වහන්සේ ඔය විදියට අර්හත්වය පසක් කරලා ටික කාලෙකට පස්සෙ වනාන්තරේ රුක් සෙවණක තනිපංගලමේ භාවනාවෙන් වැඩ ඉන්නවා. ඒ භාවනාවෙන් වැඩ ඉන්නකොට වසවර්ති මාරයාට සිතුවිල්ලක් උපන්නා මේ ඛේමා භික්ෂුණියව තමන්ගේ වසඟයට ගන්න ඕන කියලා. මේ ඛේමා භික්ෂුණිය මං මගේ වසඟයට ගන්න ඕන කියලා හිතක් මාරයාට උපන්නා. මොකද ඈ තනිපංගලමේ හිටියේ. දැන් සාමාන්‍යයෙන් තනිපංගලමේ භික්ෂුණියක් රුක් සෙවණක වාඩිවෙලා ඉද්දි ඇගේ අර්හත්වය පිටට පේන්

නෑනෙ. හැබැවටම අර්හත්වයට පත්වුනා නම් ඒක පිටට පෙන්වන්නෙත් නෑනෙ. ඇයගේ අර්හත්වය පිටට පේන් නෑ, ඇය රුක් සෙවණක වාඩිවෙලා ශාන්තව භාවනා කරනවා. මාරයා හිතුවා මේක හොඳ වෙලාව, අවුල් කරලා දාන්න ඕන මේ තැනැත්තියව. බොහොම ලස්සන හැඩකාර තරුණයෙක්ගේ, කඩවසම් තරුණයෙක්ගේ වෙස් ගත්තා මාරයා. ළඟට ඇවිල්ලා කියනවා ප්‍රිය ඛේමා, ඔයා තාමත් තරුණයි. ඔයා හරි ලස්සනයි. මේ බලන්න මං දිහා. මාත් යොවුන් තරුණයෙක්. එන්න අපි මියුරු සංගීත රසය ලබමින් කාම සැපයේ ඇලී වාසය කරමු කියලා කාමය පිණිස ආරාධනා කලා. එතකොට ප්‍රඥාවන්ත ඛේමා භික්ෂුණිය, ඛේමා අර්හත් තෙරණිය බලනවා කවුද මේ මට මේ ජාතියේ වචන කියන්නෙ. එසැණින් අඳුනගත්තා මේ වසවර්ති මාරයා නොවැ. මාරයා තමයි මා ඉදිරියට පැමිණිලා මේ වචන කියන්නෙ. එතකොට ඛේමා අර්හත් තෙරණින් වහන්සේ මාරයාට පිළිතුරු විදියට මෙන්න මේ ගාථා පැවසුවා. ඉමිනා පූතිකායේන ආතුරේන පභංගුනා අට්ටීයාමි අරායාමි කාම තණ්හා සමූහතා - ඒයි මාරය, නිතර රෝග හටගන්න වහා බිඳිලා යන මේ කුණු ශරීරය ගැන මං පිළිකුලෙන් ඉන්නෙ, මං ලැජ්ජාවෙන් ඉන්නෙ. කාම තණ්හාවේ මුල් පවා නැති කරලයි මං ඉන්නෙ. ශරීරය ගැන තිබුනු වැටහීම මේ ශරීරය කියන්නෙ නිතර රෝග හටගන්න එකක්. ශරීරය කියලා කියන්නෙ වහා බිඳිලා යන එකක්. ඒ බිඳිලා යන ශරීරය ගැන ඇත්තටම ශරීරයේ ඇත්ත ස්වභාවය දැකගත්ත කෙනෙක් විදියට පිළිකුලෙන් කියනවා ඉන්නෙ, ලැජ්ජාවට පත්වෙලා ඉන්නෙ කියනවා මේ කාම තණ්හාවෙ මුල් පවා මං නසලයි ඉන්නෙ. සත්තිසූලෝප මා කාමා කන්දාසං අධිකුට්ටනා යං ත්වං කාම රතිං බ්රූසි අරති දානි සා මම - කාමයන් කියන්නෙ විස පොවපු ආයුධ වගේ දෙයක්. පඤ්චුපාදානස්කන්ධ කියන්නෙ මස් වැදලි වගේ දෙයක්. ඔබ ඔය කාම රතිය කියන දේ දැන් මට අරතියක්. රති කියලා කියන්නෙ ආස කරන දේ. අරති කියලා කියන්නෙ එපා වෙච්චි දේ. ඔබ ඔය යම් දේකට කැමැති වෙනවාද කාමය නම් වූ දේකට ඒක දැන් මට අරතියක් කියනවා. මොකද හේතුව, නුවණින් දැක්කා ඇය කාමය කියලා කියන්නෙ විස පොවාපු ආයුධ වගේ. විස පොවාපු ආයුධ පින්වතුනි පරිස්සමින් පරිහරණය කරන්න ඕන. අපි හිතමු විස පොවපු කිණිස්සක්, විස පොවපු ඊතලයක්, ඒක පරිස්සමින් පරිහරණය කරන්න ඕන. විස පොවාපු එක හදිසියේ හරි විස පොවලා ආයුධය හදාගත්ත මනුස්සයාගේ වුනත් වැදුනොත් ඒ මනුස්සයාගේ ශරීරයට විස ඇතුල් වෙනවා. අපි හිතමු කෙනෙක් ගාව තියෙනවා තමන්ම විස පොවලා හදාගත්ත කිණිස්සක්. ඒ කිණිස්ස තමන්ගේම

ශරීරයේ ඇනුනොත් තමන්ට ඒ විසෙන් හානි සිද්ධ වෙනවා. කාමය කියලා කියන්නෙ ඒ වගේ. තමන්ම උනත් තමන්ගේ රූපයෙන් මත් වුනොත් තමන්ටම හානි සිද්ධ වෙනවා. තමන්ම වුනත් තමන්ට අයිති කාම වස්තුවෙන් මත් වුනොත් තමන්ට හානි සිද්ධ වෙනවා. තමන් වටේ තියෙන කාම වස්තුවලට තමන් මත් වුනොත් හානි සිද්ධ වෙනවා. ඒ කාමය පරිහරණය කරන්න ඕන ගොඩාක් පරිස්සමින්. හරියට විස පොවාපු ඊතල, විස පොවාපු කිණිසි පරිහරණය කරනවා වගේ හරි පරිස්සමින්, ප්‍රවේශමෙන් පරිහරණය කලොත් මේවගේ තියෙන්නෙ විස කියලා දැනගෙන පරිහරණය කලොත් ඒ කෙනාට මේ ජීවිතේ ගත කරලා කාමයන් එක්ක සම්බන්ධයක් නොවී කාමයන්ගෙන් අනතුරක් කරගන්නෙ නැතිව මැරෙන්න පුලුවන්. හැබැයි කාමයන්ට වසඟ වෙච්චි තැනැත්තා හරියට මියපරලොව යන්නෙ විස පොවාපු ඊතලයක්, විස පොවාපු කිණිස්සක් තමන්ගේ ඇඟ තුවාල කරලා ඒ විස දුවලා මාරාන්තික දුක් විඳලා මැරෙනවා වගේ, කාමයට වසඟ වෙච්චි මනුස්සයා මියපරලොව යන්නෙ. අනේ මේ මං පරිහරණය කරපු දේපල මං කොහොම දාලා යන්නද. ඇයි ඒ පරිහරණය කරපු දේපල, තමන්ගේ හිත ඇතුලට කාවැදිලා, විස පෙවිලා. අයියෝ මේ මගේ දරු පැටව්, මං ආදරය කරපු උන්. මං කොහොම දාලා යන්නද. විස පෙවිලා. මගේ වාහනේ, මං ගොඩාක් සල්ලි හම්බ කරලා ගොඩාක් සල්ලි ඉතිරි කරලා ගත්ත මගේ වාහනේ, මේක කොහොමද මං දාලා යන්නෙ. විස පෙවිලා. මේ අපිට අයිති ඉඩම. මේ ඉඩම නඩු කීයක් කතා කරලාද දින්නෙ. එහෙම දිනපු ඉඩම මං කොහොම දාලා යන්නද. විස පෙවිලා. මේ මගේ අම්මගේ පරම්පරාවෙන් ලැබිච්චි ආභරණ ටික, තාත්තාගෙ පරම්පරාවෙන් ආපු ආභරණ ටික, මේ ආභරණ අපේ වංශ පරම්පරාවට අයිති මේ ආභරණ මේවා කොහොම දාලා යන්නද, විස පෙවිලා. මේකට තමයි කියන්නෙ පින්වතුනි විස පෙවෙනවා කියලා. අතහැරලා යන්න බෑ. අතහරින්න ලෑස්තිවෙනකොට මහා දුක් වේදනා. අයියෝ මේ දේවල් කොහොම දාලා යන්නද. ශරීරයකට විසක් කැවුනට පස්සෙ හරි අමාරුයි ඒ විස ඉවත් කරන්න. අමාරුවෙන් හරි හැබැයි විසක් නම් ඉවත් කලහැකි, හැබැයි මේ කාම බන්ධනය, මේ කාමබන්ධනය ගලවන එක ලේසි නෑ. දවසක් භික්ෂූන් වහන්සේලා පිණ්ඩපාතෙ වඩිනකොට භික්ෂූන් වහන්සේලා දකිනවා බන්ධනාගාරේ අල්ලගෙන හිටපු රැඳවියෝ ටිකක් තව බන්ධනාගාරෙකට මාරු කරනවා, උන් දරුණු රැඳවියෝ. ඒ නිසා දම්වැල් වලින් තදට බැඳලා හිටියා. මේ භික්ෂූන් වහන්සේලා කල්පනා කලා පුදුම බැඳිල්ලක්නෙ බැඳලා තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ ළඟට ගිහිල්ලා හවස්

කාලයේ භාග්‍යවතුන් වහන්සේට කියනවා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, අපි අද දැක්කා හිරකාරයො දම්වැල් වලින් බැඳලා ඉන්න හැටි. ස්වාමීනී පුදුම බැඳිල්ලක් බැඳලා තියෙන්නෙ කිව්වා. බුදුරජාණන් වහන්සේ අහනවා මහණෙනි, ඒකත් බන්ධනයක් තමයි, හැබැයි මහණෙනි නුවණැත්තො ඕකට නෙවෙයි බන්ධනය කියන්නෙ. හැබෑම බන්ධනය ඕක නෙවෙයි. බන්ධනය තමයි කිව්වා දරුවො දෙමව්පියන්ට බැඳෙන බන්ධනය, හිතවතුන් හිතවතුන්ට බැඳෙන බන්ධනය, ආදරය කරන අය ආදරය කරන අයට බැඳෙන බන්ධනය, මේක තමයි කිව්වා බන්ධනය. ඇයි මේ බන්ධනය දම්වැල් වලින් බඳින එකක් නෙවෙයි. මේ බන්ධනය වරපට වලින් බඳින එකක් නෙවෙයි. මේ බන්ධනය බැඳෙන්නේ හදවත් වලින්. මේ බන්ධනයේ ස්වභාවය හඳුනාගෙන හිටියේ නැත්නම් ඒ කියන්නෙ මේ බැඳෙන හැමදේම අහිමි වීමේ ස්වභාවයෙන් යුක්තයි කියලා දැනගෙන හිටියේ නැත්නම් එතන දුකමයි ඉතුරු වෙන්නෙ. එතන දුක විතරයි ඉතුරු වෙන්නෙ, ඉතින් පින්වතුනි මේ දේවල් අහගන්න ලැබීම ඒ කියන්නෙ ජීවිත කතාවෙ ඇත්තනෙ අපි මේ අහන්නෙ. මේ දේවල් අහගන්න ලැබීම කොච්චර ලාභයක්ද, මොකද නැත්නම් අපිට සිද්ධ වෙන්නෙ බන්ධනත් එක්ක ඉඳලා අහිමි වීම එද්දි දරාගන්න බැරි දුක් විඳින්න. බන්ධනත් එක්ක ඉන්න කෙනාට අහිමි වීම කියන එක එනකොට දරාගන්න බැරි දුක්. ඔබ දැකලා ඇතිනෙ, ප්‍රියමනාප අය මියපරලොව ගියාට පස්සෙ මිනිස්සු පොළොවේ හැපි හැපි අඬන හැටි. දරාගන්න බෑ. මිනිස්සුන්ගේ ඔය නාය යෑම් ආදී අවස්ථා ඇවිල්ලා මිනිස්සුන්ගේ දේපොල සම්පත් හානි වෙනකොට මිනිස්සු උහුලාගන්න බැරිව අඬනවා. ඇයි හේතුව මේ? හේතුව එහි සත්‍ය ස්වභාවය තේරුම් අරගෙන නොසිටීමයි. ඇත්ත තේරුම් අරන් හිටියෙ නෑ. ඒ නිසා මේකට කරන්න තියෙන එකම පිළියම තමයි ඇත්ත තේරුම් අරන් ඉන්න එක. සබ්බත්ථ විහතා නන්දි තමුක්ඛං දො පදාලිතො - හැමදෙයක් ගැනම ඇති තණ්හාව මං නැති කරලා දැම්මා. අවිද්‍යාව නම් වූ අන්ධකාර කෙලෙස් කඳ බිඳලා දැම්මා. ඒවං ජානාහි පාපිම නිහතො ත්වමසි අන්තක - මාරය ඔන්න ඔය විදියටයි ඔහේ මං ගැන දැනගන්න ඕන. මේ කාරණයේදී නැසුනේ ඔබයි කිව්වා. නක්ඛත්තානි නමස්සන්තා අග්ගිං පරිචරං වනේ -මෝඩ ජනතාව නැකැත් වලට වැඳ වැඳ වනාන්තරයේ ගිනි දෙවියන්ව පුදාගෙන, යතා ගුච්ඡ අදානන්තා බාලා සුද්දිං අමඤ්ඤත - එහෙම නොයෙක් නැකැත් කේන්දර වල පටලැවී පටලැවී ගිනි දෙවියෝ පුද පුද මිනිස්සු පිරිසිදු බවක් හොයනවා. මෙලෝ හසරක් නොදැන මිනිස්සු පිරිසිදු බවක් හොයනවා. ග්‍රහයෝ පුද පුදා මිනිස්සු පිරිසිදු බවක්

හොයනවා. ලිතට අනුව වැඩ කර කර පිරිසිදු බවක් හොයනවා. මේ කේන්දරය බල බලා, කේන්දරයේ ග්‍රහ චක්‍රය බල බලා, තමන්ගේ රාශිය බල බලා තමන්ගේ ලග්නය බල බලා වේලාපත්කඩ හදාගෙන මිනිස්සු ඒවාගෙන් පිරිසිදු බවක් හොයනවා. ඒවාගෙන් දියුණුවක් පතනවා. දහස් ගණන් වියදම් කර කර නැකැත් බලනවා. නැකැතට වැඩ කර කර පිරිසිදු බවක් හොයනවා. ඒක එකලත් එහෙමයි, ඒක මෙකලත් එහෙමයි, ඕක අනාගතෙත් ඔහොම තමයි, ඉතින් ඕකෙන් බේරෙනවා නම් බේරෙන්නෙ, ඔය ගැටෙන් බේරෙනවා නම් බේරෙන්නෙ නුවණක් තියෙන කෙනෙක්. නුවණක් තියෙන කෙනෙක්මයි ඔය මනස්ගාත පස්සෙ යන එක නවත්තනවා නම් නවත්තගන්නෙ. ඉතින් ඒකට නුවණ නැත්නම් මක් කරන්නද. අහං ච කො නමස්සන්ති සම්බුද්ධං පුරිසුත්තමං - ඒ මිනිස්සු ඒ මෝඩ වන්දනා සිද්ධ කරද්දි මාරය මම නම් වන්දනා කරද්දි පුරිසෝත්තම සමිදාණන්ටයි. මම නම් වන්දනා කරන්නෙ පුරුෂෝත්තම බුදු සමිදාණන්ටයි. මං ශාස්තෘ ශාසනය අනුගමනය කරන සියලු දුක් වලින් නිදහස් වුනු කෙනෙක්. ඒ විදියටයි ඛේමා රහත් තෙරණින් වහන්සේ තමන් වහන්සේගේ ගාථා වදාළේ. හරී ලස්සනයි අහං ච කො නමස්සන්ති සම්බුද්ධං පුරිසුත්තමං - මම නම් වන්දනා කරන්නෙ පුරිසෝත්තම වූ සම්බුදුරජාණන් වහන්සේටයි. අනික් වන්දනා මට වැඩක් නෑ. හිතට ගන්න ඒක. හිතට ගන්න බුදුරජාණන් වහන්සේගේ සරණ මුණගැහිච්චි මොහොතේ ඔන්න ඔබත් හිතට ගන්න. අනික් වන්දනා මට වැඩක් නෑ. අනික් ඒවා පස්සේ යෑම මට වැඩක් නෑ, අහං ච කො නමස්සාන්ති සම්බුද්ධං පුරිසුත්තමං - මම නම් නමස්කාර කරන්නේ සම්බුදු බවට පත්වූ ඒ පුරිසෝත්තමයන් වහන්සේටයි. ඒ පුරුෂෝත්තමයන් වහන්සේටයි වන්දනා කළ යුත්තේ, බුදුරජාණන් වහන්සේට නම් ජීවිත කාලෙම වැඳ වැඳ හිටියත් මොකෝ. තමන් වහන්සේගේ ජීවිතේ පිළිසරණ හදාගත්ත උත්තමයන් වහන්සේ, මහා කරුණාවෙන් ලෝකයට බණ පද කියාදීපු උත්තමයන් වහන්සේ, ඒ බුදුරජාණන් වහන්සේට ජීවිත කාලෙම සාදු සාදු කිය කියා වැඳ වැඳ හිටියත් කමක් නෑ. ඉතින් ඒ විදියට ඛේමා රහත් තෙරණින් වහන්සේ ගාථා කිව්වා. ගාථා කියනකොට මාරයාට කරකියාගන්න දෙයක් නැතිව ගියා. මාරයා ආපු වැඩේ සම්පූර්ණ වැරදුනා. මාරයා දුකට පත්වුනා. අයියෝ මේ ඛේමා භික්ෂුණිය මාව අඳුනගත්තා නොවැ. මගේ වැඩේ ඔක්කොම අවුල් ගියා නොවැ කියලා නොසතුටු වුනා. නොසතුටු වෙලා ඒ මාරයා එතනම නොපෙනී ගියා. ඒ නිසා පින්වතුනේ බුදුසරණක් ලබාගෙන බුදුරජාණන් වහන්සේගේ පිහිට ලබාගෙන බලන්න තමන්ගේ ජීවිතේ

සම්පූර්ණයෙන්ම වෙනස් කරගත්ත හැටි. ඒ වෙනස් කරගත්ත ශ්‍රාවක ශ්‍රාවිකාවො බුදුරජාණන් වහන්සේ නිසා තමයි ජීවිතේට සියලු යහපත උදාවුනේ කියලා දැනගෙන අනිත් ඔක්කොම අතහැරලා ඒ ශාස්තෘන් වහන්සේට වන්දනා කර කර ඉන්නවා. ඉතින් අපිට දුර්ලභ මනුස්ස ජීවිතයක් ලැබිලා, ඒ මනුස්ස ජීවිතේ දුර්ලභ කම ගොඩාක් වැඩියි, හේතුව, සාමාන්‍ය මිනිස්සුන්ට, සාමාන්‍ය මනුස්ස ලෝකෙ උපදින මිනිස්සුන්ට ලැබෙනවාට වඩා වැඩි දෙයක් අපිට මේ මනුස්ස ජීවිතේ ලැබුනා. බුදුරජාණන් වහන්සේව ගුණ වශයෙන් දැනගන්න අපිට අවස්ථාව ලැබුනා. ඒ බුදුරජාණන් වහන්සේ අරහං, සම්මා සම්බුද්ධයි, විජ්ජාචරණ සම්පන්නයි, ලෝකවිදූ, අනුත්තර පුරිසදම්මසාරථී, සත්ථා දේවමනුස්සානං, බුද්ධ, භගවා කියලා බුදු ගුණ අහන්න ලැබුනා. ඒ භාග්‍යවතුන් වහන්සේගේ අසිරිමත් ජීවිතය අපිට අහන්න ලැබුනා. බුදු කරුණාව අපිට අහන්න ලැබුනා. බුදුරජාණන් වහන්සේ නිසා සැනසුනු ජීවිත ගැන අපිට අහන්න ලැබුනා. බුදුරජාණන් වහන්සේ ලෝකයට දේශනා කරපු දේ අපිට අහන්න ලැබුනා. ඒ බුදුරජාණන් වහන්සේගේ නිර්මල බුද්ධ භාෂිතය අපිට තේරෙන භාෂාවෙන් අපිට කියවන්න ඉගෙන ගන්න අවස්ථාව ලැබුනා. ඒ බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පානකොට ධාතූන් වහන්සේලා බෙදෙන්න අධිෂ්ඨාන කරපු බව අපිට අහන්න ලැබුනා. ඒ ධාතූන් වහන්සේලා වැඳ පුදාගන්න ලැබුනා. ඒ ධාතූන් වහන්සේලා තැන්පත් කරලා ඉදිවෙච්චි සෑය වදින්න ලැබුනා. බුදුරජාණන් වහන්සේගේ සම්බෝධියට සෙවණ දුන්නු බෝධිය වදින්න ලැබුනා. සුලුපටු වාසනාවක් නෙවෙයි. ඒ නිසා අනිත් ඒවා ඔක්කොම අත්හැරලා බුදුරජාණන් වහන්සේටමයි අපි වන්දනා කලයුත්තේ. ඉතින් මේ උතුම් බණ පදය අපි ඇහුවේ ඛේමා අර්හත් තෙරණින් වහන්සේ නිසා අපි අධිෂ්ඨාන කරමු. අපිටත් මේ බුදු සරණ මුණගැහිච්ච ජීවිතේ සුවසේ පින් කරගෙන සුවසේම දහම් මග දියුණු කරගෙන ශාස්තෘන් වහන්සේගේ වචනයට අනුවම ජීවිතය හැඩගස්වාගෙන අපේ ජීවිතය සැපවත් කරගන්න ලැබේවා. ඒ උතුම් රහතන් වහන්සේලා රහත් තෙරණින් වහන්සේලා සැනසුනු නිවනේ අපිටත් සැනසෙන්න ලැබේවා. සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් සියලු දෙවියෝ සතුටු සිතින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන් වන දෙවිවරු දිව්‍ය සැපයෙන් දිව්‍ය ආශ්චර්යයෙන් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ රැකවරණ උපකාර අප හැමදෙනාට දෙවියෝ සලසාදෙත්වා. දෙවියෝද සංසාර දුකින් අතමිදෙත්වා. සාදු සාදු සාදු!!! ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන්

වහන්සේට සියලු පින් අනුමෝදන්ව නිදුක් නිරෝග සුව සැලසේවා, දීර්ඝායුෂ සැලසේවා, මේ ගෞතම ශාසනය තුළ උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්නට වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කරගන්න යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද දවසේ ධර්ම දානමය පින්කම සිදු කරන ඒ කොරියාවේ සේවයේ නියුතු පින්වත් රොෂාන් මහත්මා මූලිකවම බලාපොරොත්තු වෙන්නේ තමන්ගේ ආදරණීය පෙම්වතියගේ උපන්දිනය නිමිත්තෙන් හසිනි උදයංගනී පෙම්වතියට සෙත් ප්‍රාර්ථනා කිරීමයි. ඉතින් මේ ධර්මදානමය පිනේ ආශිර්වාදය, බුද්ධරත්නයේ ආශිර්වාදය, ධර්මරත්නයේ ආශිර්වාදය, සංඝරත්නයේ ආශිර්වාදය පුණ්‍යානුමෝදනාවෙන් සතුටු වූ සිත් ඇති සියලු දෙවිදේවතාවුන් වහන්සේලාගේ ආශිර්වාදය උපන්දිනය යෙදුනු පිනිවත් හසිනි උදයංගනී මහත්මියට සැලසී නිදුක් නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සැලසේවා. කිසී කරදරයකින් බාධාවකින් තොරව සුවසේ නිදුකින් ජීවිතය ගතකරන්න ලැබේවා. හසිනි උදයංගනී මහත්මියටත්, ඒ වගේම රොෂාන් මහතාටත් ඒ දෙදෙනාටම තමන්ගේ ජීවිතයේ සුවසේ පින් රැස්කරගෙන කල්‍යාණමිත්‍ර ඇසුරේ දහම් මග දියුණු කරගෙන ගෞතම බුදුරජාණන් වහන්සේගේ බුද්ධ ශාසනය මුණගැහුනු මේ ජීවිතයේ ඒ බුදු සසුන තුළ පිහිට පිළිසරණ රැකවරණය සලසාගන්නටත් වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. ධර්ම දානය සිදු කරන රොෂාන් මහත්මාගේ නමින් යම්තාක් මියපරලොව යන්න යෙදුනු ඥාතීන් හිතමිත්‍රාදීන් වෙත්ද ඒ සියලු ඥාතීන්ට පින් අනුමෝදන් වෙලා, ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයට පත්වෙත්වා. ඥාතීන් මේ දුක් සහිත සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදන් කරන්න. ගාමන්ච් ආයතනයේ සේවයේ නියුතු සෑම සියලු දෙනා හට මේ පින් අනුමෝදන් වෙලා ඒ සියලූදෙනාට නිදුක් නිරෝගී සුව සැලසේවා ඒ කරන කටයුතු කිසීම කරදරයකින් බාධාවකින් තොරව සුවසේ කරගන්න ලැබේවා. ඒ අයටත් මේ බුද්ධ ශාසනයේ පිළිසරණ ලබන්න වාසනාව ලැබෙත්වා කියලා ප්‍රාර්ථනා කරමු. ධර්ම දානය සිදු කරන කොරියාවේ සේවයේ නියුතු පින්වත් රොෂාන් මහත්මාට ඒ සේවා කටයුතු කිසී කරදරයකින් තොරව බාධාවකින් තොරව සුවසේ සිද්ධ කරගන්නට අවකාශ ලැබෙත්වා. විදේශගතව කරන ඒ කටයුතු කායික සුවයෙන්, මානසික සුවයෙන් යුක්තව සුවසේම සිදු කරගන්නට රත්නත්‍රයේ ආශිර්වාදය සියලු දෙවියන්ගේ ආශිර්වාදය මේ රැස් කලා වූ පිනේ ආශිර්වාදය නොඅඩුවම ලැබෙත්වා. එතුමාගේ දෙමව්පියන්ටත්, වැඩිමහල් සහෝදරයාටත්,

බාල සහෝදරයාටත්, ගංගා, ඉසංක, සිඟිති යන සහෝදර සහෝදරියන් ඇතුළු පවුලේ සියලු දෙනාටත් මේ සියලු පින් අනුමෝදන් වෙලා සියලු දෙනාගේ ජීවිත වලට සියලු යහපත අභිවෘද්ධිය උදාවේවා. කරන කියන රැකී රක්ෂා අධ්‍යාපන කටයුතු ආදිය සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වේවා. දියුනුවට පත්වෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සෑම සියලු දෙනාටත්, සුපින්වතුන් හැමදෙනාටත් මේ ලැබිච්ච දුර්ලභ මනුස්ස ජීවිතේ කල්‍යාණ මිත්‍ර ඇසුර සුවසේ ශක්තිමත්ව පවත්වාගන්න ලැබේවා. අසත්පුරුෂ පාපී ඇසුරට කිසි කලෙකත් ජීවිතේ යොමු නොවෙත්වා. සුවසේ පින් රැස් කරගෙන, සුවසේ දහම් මග දියුණු කරගෙන ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න ඔබ හැමදෙනාටම වාසනාව ලැබේවා. හැමදෙනාටම තෙරුවන් සරණයි ! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=UuYbuAkXxik

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද දවසේ ධර්ම දේශනාවට දායකත්වයන් දරනු ලබනවා ඩුබායි හි සේවයේ නියුතු පින්වත් පී.කේ. තිළිණි නිසංසලා මහත්මිය සහ ගාල්ලේ පදිංචි හසන්ත මධුසංඛ වීරසිංහ, දිනූෂා තරංගනී වීරසිංහ යන මේ පින්වතුන්ලා. ප්‍රධාන අරමුණ ලෙස ඒ පින්වතුන් සඳහන් කරන්නේ 2021 ජූලි මාසේ 24 වන දිනට 35 වන ජන්ම දිනය යෙදුනු පින්වත් පී.කේ. තිළිණි නිසංසලා මහත්මියට මේ සියලූ පින් නිදුක් නිරෝගී සුවය පිණිස දීර්ඝායුෂ පිණිස හේතුවේවා කියන ප්‍රාර්ථනාවත්, හසන්ත සහ දිනූෂා යන දෙපළට පින්වන්ත දරු සම්පතක් ලැබෙන්න මේ පිනේ ආශිර්වාද සැලසේවා

කියන අදහසත් මුල් කරගෙනයි ධර්ම දානමය පින්කම මේ විදියට සිද්ධ කරන්නෙ. මේ ගෞතම ශාසනයේ අග්‍රශ්‍රාවිකාව විසින් වදාළ සුන්දර ධර්මයක් අද දේශනාවෙන් ඔබට අහන්න ලැබෙනවා. මේ බුදුසසුනේ තිලෝගුරු අපගේ ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ බුද්ධ ශාසනයේ අග්‍රශාවකයින් වහන්සේලා බවට පත්වුනේ අපගේ සාරිපුතුත මහරහතන් වහන්සේ, අපගේ මහාමොග්ගල්ලාන මහරහතන් වහන්සේ. මේ බුදු සසුනේ භික්ෂුනී සංඝයා අතරේ අග්‍ර ශ්‍රාවිකාවො බවට පත්වුනා ඛේමා අර්හත් උත්තමාවියත් උප්පලවණ්ණා අර්හත් උත්තමාවියත්. අද අපි ඉගෙන ගන්න මේ ධර්මය වදාළේ ඛේමා නම් වූ රහත් තෙරණින් වහන්සේ. මේ බුදු සසුනේ ඛේමා රහත් තෙරණින් වහන්සේ අග තනතුරු ලැබුවා ඒත දග්ගං භික්ඛවෙ මමසාවිකානං භික්ඛුණීනං - මහණෙනි මාගේ ශ්‍රාවිකා වූ භික්ෂුණී සංඝයා අතරේ, මහා පඤ්ඤානං යදිදං ඛේමා - මහා ප්‍රඥා ඇති භික්ෂුණීන්ට අග්‍ර වෙනවා මේ ඛේමාව. ඛේමා භික්ෂුණීන් වහන්සේ පසේනදී කෝසල රජ්ජුරුවන්ට දේශනා කරපු බොහෝම ලස්සන බණ පදයක් අපි ඉගෙන ගන්නවා, මේකෙන් තේරෙනවා ඒ ඛේමා රහත් තෙරණින් වහන්සේගේ තිබුනු ප්‍රඥා කෞෂල්‍යය. හරි ලස්සන බණ පදයක්. මේ සිදුවීම වෙද්දී අපගේ මහා කාරුණික ශාස්තෲන් වහන්සේ සැවැත් නුවර ජේතවනාරාමයේ තමයි වැඩ හිටියේ. ඔය දවස් වල දහම් චාරිකාවේ වඩින අතරේ ඛේමා රහත් තෙරණින් වහන්සේ සැවැත් නුවරටත්, සාකේත නුවරටත් අතර තිබුනු තෝරනවත්ථු කියන ගමට වැඩම කලා. ඛේමා රහත් තෙරණින් වහන්සේගේ චරිතාපදානය අපි අහලා තියෙනවා, ඛේමා රහත් තෙරණින් වහන්සේ අර්හත්වයට පත්වුනේ ගිහිව සිටියදීමයි. ඒ අපගේ මහා කාරුණික ශාස්තෲන් වහන්සේ භාග්‍යවත් අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ හමුවේ මුල්ම බණ පදය අහනකොට රාජමහේෂිකාව විදියට ගිහි වස්ත්‍ර වලින් සැරසිලා ඉද්දීම සියලු කෙලෙස් නැසුවා. එහෙම ප්‍රඥාවක් එහෙම නුවණක් තිබුනු උත්තමාවියක්. අර්හත්වයට පත්වෙලාමයි බුද්ධ ශාසනයේ පැවිද්ද ලැබුවේ. ඒ උත්තමාවිය දහම් චාරිකාවේ වැඩම කරනවා. බුදුරජාණන් වහන්සේ ශ්‍රාවක භික්ෂූන් වහන්සේලාටත්, භික්ෂුණීන් වහන්සේලාටත් දහම් චාරිකාව අනුදැන වදාළානේ. භාග්‍යවතුන් වහන්සේ දේශනා කලා මහණෙනි, මේ සොඳුරු සද්ධර්මය ලෝකානුකම්පාවෙන් යුක්තව කියාදෙන්න. ඒ උදෙසා දහම් චාරිකාවේ වැඩම කරන්න. දහම් චාරිකාවේ වැඩම කරමින් මේ මනුස්සයාට ආදි කල්‍යාණං - ආරම්භයත් සුන්දර, මජ්ජේ කල්‍යාණං - මධ්‍යයත් සුන්දර, පරියෝසාන

කල්‍යාණං - අවසානයත් සුන්දර, සාත්තං සබ්‍යංජනං - අරුත සහිත පැහැදිලි ප්‍රකාශන සහිත, කේවල පරිපුන්නං පරිසුද්ධං බ්‍රහ්මචරියං පකාසේත - මුළුමනින්ම සුන්දර පාරිශුද්ධ නිවන් මග දේශනා කරන්න. බුදුරජාණන් වහන්සේ දේශනා කලේ කොච්චර අනුකම්පාවක් තිබුනාද කියන්නෙ ශාස්තෲන් වහන්සේ වදාරනවා දෙනමක් එක පාරක යන්න එපා. දෙනමක් එක පාරක වැඩම කලොත් ඒක අපරාදි. ඒ නිසා පුලුවන් තරම් මේ සත්‍යයේ කතාව, මේ සද්ධර්මය ලෝකයාට දේශනා කරන්න. එසේ දේශනා කිරීම මහණෙනි, දෙව් මිනිසුන්ට යහපත පිණිස සැප පිණිස ලෝකානුකම්පාව පිණිස පවතින්නේය කියලා. ඉතින් ඒ දේශනා කරපු දවසේ ඉදලා භික්ෂු භික්ෂුණීන්ගේ තිබුනු සිරිතක් දහම් චාරිකාවේ වැඩම කිරීම. වස් කාලය ඇරුණු කොට අනිත් කාලයේ කරන්නේ මේ මනුස්සයා කෙරෙහි අනුකම්පාවෙන් බුදුරජාණන් වහන්සේගේ සුන්දර සද්ධර්මය කියමින් ජනපදයෙන් ජනපදයට චාරිකාවේ වඩිනවා. ඉතින් මේ සිදුවීම වෙන කාලයේ ඛේමා භික්ෂුණිය ප්‍රධාන ඒ භික්ෂුණීන් වහන්සේලා කෝසලය ඇසුරු කරගෙන තමයි චාරිකාවේ වැඩම කරලා තියෙන්නෙ. සැවැත් නුවරටයි සාකේත නුවරටයි අතරට වෙන්න තිබුනා තෝරනවත්ථු නමින් හඳුන්වපු එක ගමක්. ඉතින් ඒ ගමේ එදා ඛේමා රහත් තෙරණින් වහන්සේ වැඩ ඉන්නවා. පසේනදී කෝසල රජතුමා යම් රාජකාරී කටයුත්තකට ගිහිල්ලා එද්දී පරක්කු වුනා. රජ්ජුරුවො තීරණය කලා තෝරනවත්ථු කියන ගමේ එක රැයක් වාසය කරන්න. දැන් එය රැය එළඹිලා රාත්‍රී කාලය එනකොට රජ්ජුරුවො කල්පනා කලා දහම් ඇසුරක් ලබන්න. මේ තෝරනවත්ථුවේ අද ගත කරන දවසේ දහම් ඇසුරක් ලබලා නුවණැති අවවාදයක් ලබාගන්න උත්තමයෙක් එහෙම කවුරුහරි ඉන්නවාද. රාජපුරුෂයෙකුට කතා කරලා කියනවා එම්බා පුරුෂය පොඩ්ඩක් ගිහින් බලාපං අද දවසේ මං කාත් එක්කද සොඳුරු දහම් ඇසුරක් පවත්වන්නේ කියලා, ඊට සුදුසු ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයේක මේ තෝරනවත්ථු ගමේ ඉන්නවාද කියලා බලාගෙන වරෙන් කිව්වා. එතකොට මේ පුරුෂයා  එසේය දේවයෙනි කියලා පිළිතුරු දීලා තෝරනවත්ථු ගම පීරා ඇවිද බැලුවා. එසේ ඇවිද බලද්දි රජ්ජුරුවොත් එක්ක සොඳුරු දහම් කතාවකට ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් ඔහුට හොයාගන්න බැරිව ගියා. හැබැයි කීර්තිඝෝෂා පැතිර පැතිර වැඩ හිටපු ඛේමා රහත් තෙරණින් වහන්සේ ගැන අහන්න ලැබුනා. රජ්ජුරුවො ළඟට ඇවිල්ලා කියනවා රජතුමනි. දහම් ඇසුරක් පැවැත්වීම පිණිස ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් නම් මේ තෝරනවත්ථුවේදී මට හොයාගන්න බැරිව ගියා. හැබැයි දේවයෙනි, භාග්‍යවතුන් වහන්සේගේ

ශ්‍රාවිකාවක් වන ඛේමා කියන භික්ෂුණිය නම් මේ තෝරනවත්ථුවේ එක්තරා ආරාමයක වැඩ ඉන්නවා. ඒ ආර්යාව ගැන මෙහෙම කීර්තිඝෝෂාවක් පැතිරිලි තියෙනවා. මේ ඛේමා රහත් තෙරණින් වහන්සේ, මේ ඛේමා භික්ෂුණිය ඥාණවන්තයි, ව්‍යක්තයි, ප්‍රඥාවන්තයි, බොහෝ ඇසූ පිරූ දහම් දැනුමක් තියෙනවා, විසිතුරු කතාබහින් යුක්තයි, සොඳුරු වැටහීමෙන් යුක්තයි. ඔන්න ඒ කාලෙ පැතිරිලා තිබුනු හැටි අපගේ ඛේමා රහත් තෙරණිය ගැන මේ මනුස්සයො අතරේ. රජ්ජුරුවන්ට මේ පණිවිඩය අහන්න ලැබෙනකොට මා දහම් කතාවකට එළඹෙනවාද ඒ සඳහා කටයුතු සූදානම් කරාපං කිව්වා. ඉතින් ඛේමා භික්ෂුණියටත් දැනුම් දීලා පසේනදී කෝසල රජතුමා එදා අපේ ඛේමා රහත් තෙරණින් වහන්සේ සමීපයට දහම් ඇසුර පිණිස පිටත් වුනා. ඛේමා භික්ෂුණියට ආදරයෙන් වන්දනා කරලා එකත් පසෙක වාඩි වෙලා රජ්ජුරුවො මෙන්න මෙහෙම ප්‍රශ්නයක් ඇහුවෙ. රජ්ජුරුවො අහනවා ආර්යාවෙනි, ඇත්තෙන්ම තථාගතයන් වහන්සේ මරණින් මත්තෙ ඉන්නවාද, ඛේමා තෙරණිය පිළිතුරු දුන්නා මහරජ, තථාගයන් වහන්සේ මරණින් මතු ඉන්නවාය කියන කාරණය භාග්‍යවතුන් වහන්සේ නොවදාළ දෙයක්. එහෙම එකක් බුදුරජාණන් වහන්සේ දේශනා කරලා නෑ කිව්වා. තථාගතයන් වහන්සේ මරණින් මතු ඉන්නවා කියන කාරණය ගැන යමක් බුදුරජුන් දේශනා කරලා නෑ. රජ්ජුරුවො අහනවා ආර්යාවෙනි, එහෙනම් තථාගතයන් වහන්සේ මරණින් මතු නැද්ද? මහරජ තථාගතයන් වහන්සේ මරණින් මතු නැත කියන කාරණයටත් භාග්‍යවතුන් වහන්සේ පිළිතුරු දීලා නෑ. ආර්යාවෙනි එහෙනම් තථාගතයන් වහන්සේ මරණින් මතු ඉන්නවාද, නැද්ද? ඒකටත් ඛේමා තෙරණින් වහන්සේ කියනවා මහරජ, තථාගතයන් වහන්සේ මරණින් මතු ඇත නැත කියන කාරණයටත් බුදුරජාණන් වහන්සේ පිළිතුරක් දීලා නෑ. ආර්යාවෙනි එහෙමනම් තථාගතයන් වහන්සේ මරණින් මතු ඉන්නෙත් නැද්ද, නැත්තෙත් නැද්ද? මහරජ, තථාගයන් වහන්සේ මරණින් මතු ඉන්නේ නැත, නැත්තේද නැත කියන කාරණයටත් භාග්‍යවතුන් වහන්සේ පිළිතුරක් දීලා නෑ. ඒක නොවදාළ දෙයක්. බලන්න පින්වතුනි ශ්‍රාවකයන්ගේ ස්වභාවය. ශ්‍රාවකයො ඒ වගේ ප්‍රශ්න අහනකොට බුදුරජාණන් වහන්සේ නොවදාළ දෙයක් සම්බන්ධයෙන් මට නම් රජතුමනි මෙහෙමයි හිතෙන්නෙ කියලා නිකං තමන්ගේ අත්තනෝමත කියන්න ගියෙ නෑ. ඔය කාරණය ගැන බුදුරජාණන් වහන්සේ නම් කිසිවක් වදාරලා නෑ. ඍජුව ප්‍රකාශ කලා. ඔය කාරණය ගැන බුදුරජාණන් වහන්සේ කිසිවක් ප්‍රකාශ කලේ නෑ කියලා. ඔීක පින්වතුනි

තථාගතයන් වහන්සේ පිළිතුරු නොදුන් ප්‍රශ්නයක් විදියට මේ ධර්මයේ සඳහන් වෙන්නෙ. ඔය ප්‍රශ්න හතරට බුදුරජාණන් වහන්සේ පිළිතුරු දීලා නෑ. තථාගතයන් වහන්සේ මරණින් මතු ඉන්නවා කියන කාරණයට පිළිතුරක් දීලත් නෑ. තථාගතයන් වහන්සේ මරණින් මත්තෙ නෑ කියන කාරණයට පිළිතුරක් දීලත් නෑ. තථාගතයන් වහන්සේ මරණින් මත්තෙ ඉන්නවාද නැද්ද කියන එකටත් පිළිතුරක් දීලා නෑ. තථාගතයන් වහන්සේ මරණින් මත්තෙ ඉන්නෙත් නෑ නැත්තෙත් නෑ කියන එකටත් පිළිතුරක් දීලත් නෑ. පිළිතුරු නොදෙන්න හේතුව මොකක්ද, අන්න ඒ කාරණය හරි ලස්සනට තේරුවා අපේ ඛේමා අර්හත් තෙරණින් වහන්සේ. රජ්ජුරුවො අහනවා ඇයි ආර්යාවෙනි, භාග්‍යවතුන් වහන්සේ විසින් මේවා නොවදාළේ මොන හේතුවක් නිසාද? පින්වත් මහරාජය, එහෙනම් මං ඔබෙන්ම මේ කාරණය විමසන්නම්. ඔබට යම් අයුරකින් වැටහෙනවා නම් අන්න ඒ විදියට තමයි මේකට පිළිතුරු දෙන්න ඕන. මහරජ මොකක්ද හිතෙන්නෙ ඔබට? කෙනෙක්ට පුලුවන්ද කියලා අහනවා ගංගා නදියේ වැලි ගණන් කරලා කියන්න. ගංගා නදියේ තියෙන වැලිකැට මෙච්චරයි, වැලිකැට සීයේ ඒවා මෙච්චරයි, වැලි කැට දාහෙ ඒවා මෙච්චරයි, වැලිකැට ලක්ෂයේ ඒවා මෙච්චරයි කියලා එහෙම වැලිකැට ගණන් කරන්න පුලුවන් මිනිහෙක් ඉන්නවාද? එතකොට රජ්ජුරුවො කියනවා ආර්යාවෙනි ගංගා නදියේ තියෙන වැලිකැට ගාණ ගත්තහම අනන්තයි අප්‍රමාණයි, එහෙම ගනින්න පුලුවන් කෙනෙක් නෑ කිව්වා. ඈ මහාරාජ, යම්කිසි කෙනෙක් ඉන්නවාද මේ සාගරයේ ජලය ප්‍රමාණය, මහසයුරේ තියෙන ජලය ප්‍රමාණය ගණන් කරලා කියන්න පුලුවන් කෙනෙක්? මහමුහුදේ වතුර මෙච්චර නැලි ගාණක් තියෙනවා. නැලි සීයේ ඒවා මෙච්චරක් තියෙනවා. නැලි දාහේ ඒවා මෙච්චරක් තියෙනවා, එහෙම නැත්නම් නැලි ලක්ෂයේ ඒවා මෙච්චරක් තියෙනවා කියලා නැලි ගාණින් මුහුදේ වතුර ගණන් කරන්න පුලුවන් මනුස්සයෙක් ඉන්නවාද කියලා ඇහුවා. එතකොට රජ්ජුරුවො කියනවා ආර්යාවෙනි, ඒක කරන්න බැරි එකක්. ඇයි මහරජ ඒක කරන්න බැරි? කුමක් නිසාද? පින්වත් ආර්යාවෙනි මහාසාගරය හරී ගැඹුරුයි නොවැ. මිනුමකට ගන්න බැහැ නොවැ. බැසගන්න බැහැ නොවැ. මහා සාගරයේ තියෙන මේ ජලස්කන්ධය, මහා සුවිශාල ජලකඳ එහෙම ප්‍රමාණ කරනවා කියන එක කියන්න පුලුවන් එකක් නෙවෙයි. පින්වත් මහරජ ඔන්න ඔය විදියමයි, ඔය විදියමයි තේරුම් ගතයුත්තේ. කෙනෙකුට ගංගා නදියේ වැලි කැට ගාණ ගණන් කරලා කියන්න බැරි යම් කරුණක් නිසාද, කෙනෙකුට මුහුදේ ජලය ප්‍රමාණ

කරන්නට බැරි යම් කරුණක් නිසාද, ඔන්න ඔය විදියටමයි මේ කරුණත් තේරුම් ගත යුත්තේ. තථාගතයන් වහන්සේව යම් රූපයකින් පනවා නම් තථාගතයන් වහන්සේ පැනවීම පිණිස යම් රූපයක් මුල් කරගන්නවා නම් ඒ රූපය තථාගතයන් වහන්සේට ප්‍රහීන වෙලයි තියෙන්නෙ. මුලින්ම සිඳිලයි තියෙන්නෙ. කරටිය සිඳුණු තල්ගසක් වගේ වෙලයි තියෙන්නෙ. අභාවයට පත්වෙලයි තියෙන්නෙ. නැවත නූපදින ස්වභාවයට පත්වෙලයි තියෙන්නෙ. යම් රූපයකින් තථාගතයන් වහන්සේව පෙන්වනවා කියලා යමක් කරන්න පුලුවන් නම් එබඳු රූපයක් එබඳු තෘෂ්ණාභරිතව අල්ලා ගත්තු රූපයක් බුදුරජාණන් වහන්සේට නෑ. රූපයෙන් නිදහස් වෙලා. පින්වත් මහාරාජ, රූපය පිළිබඳ තෘෂ්ණාව ගෙවා දැමීමෙන් නිදහස් වී ඇති තථාගතයන් වහන්සේ ගම්භීරයි, මිනුමකට අයත් වෙන්නෙ නෑ, බැස ගැනීමකට අයත් වෙන් නෑ, හරියට මහාසාගරය වගේ. මහා සාගරයේ වතුර තමයි තියෙන්නෙ. හැබැයි වතුර තිබුනාට ඒ මහා සාගරය හිතාගන්න බැරි තරම් ගැඹුරුයි. ඒ ගම්භීර බව නිසා මහා සාගරයට බැසගෙන මහා සාගරයේ වතුර ප්‍රමාණ කරන්න පුලුවන්කමක් නෑ. අන්න ඒ වගේ කියනවා, බුදුරජාණන් වහන්සේ රූපය කෙරෙහි පවතින තෘෂ්ණාව ගෙවා දමා රූපයෙන් නිදහස් වූ නිසා ඒ තථාගතයන් වහන්සේ ගම්භීරයි, මිනුමකට අයත් වෙන්නෑ මහසයුර වගේ. අන්න ඒ නිසා තථාගතයන් වහන්සේ මරණින් මතු ඉන්නවා කියන කාරණය යෙදවෙන්නැති එකක්. මරණින් මතු නැත කියන කාරණයත් යෙදවෙන් නැති එකක්. තථාගතයන් වහන්සේ මරණින් මතු ඉන්නවාය නැත කියන කාරණයත් යෙදවෙන් නැති එකක්. තථාගතයන් වහන්සේ මරණින් මතු ඉන්නෙත් නැත, නැත්තෙත් නැත කියන කාරණය යෙදවෙන්නේ නැති එකක්. ඒවා වාද බරිත කරුණු. ඒ වාදබරිත කරුණු කිසිවක් තථාගතයන් වහන්සේ කෙරෙහි යෙදවෙන්නේ නෑ. බුදුරජාණන් වහන්සේලා අනන්ත අප්‍රමාණ ගුණ ඇත්තේය. බුදුගුණ ගැන ධර්මයේ සඳහන් වෙනවා, බුද්ධෝපිබුද්ධස්ස බරෙය්‍ය වණ්ණං - බුදු කෙනෙක්ම බුදු කෙනෙක්ගේ ගුණ කඳ වර්ණනා කරන්න පටන් ගනී, කප්පං පිචේ අඤ්ඤමභාසමාණො - කල්පයක් තිස්සේම බුදු ගුණ කියාදෙයි. වෙන කිසිවක් නොපවසයි. කීයෙත කප්පොචිර දීග මන්තරේ - දීර්ඝ කාලය ඇවෑමෙන් කල්පය නම් අවසන්ව යනු ඇත. වණ්ණොන කීඑ්න තථාගතස්ස - තථාගත බුදුරජුන්ගේ ගුණ වරුණ නම් එසේ අවසන් නොවේ. එහෙම ගුණ, අනන්ත අප්‍රමාණ ගුණ බුදුරජාණන් වහන්සේ තුළ තිබුනා. රූපයකින් ශාස්තෲන් වහන්සේව මනින්න බෑ. එක අවස්ථාවක අතුල කියලා එක මනුස්සයෙක් ඒ

මනුස්සයාට උවමනාවක් ඇතිවුනා, ඒ මනුස්සයාට හිතක් උපන්නා මං බුදුරජාණන් වහන්සේව මනින්න ඕන. මං බුදුරජාණන් වහන්සේව මැනලා බලන්න ඕන කියලා හිතක් උපන්නා. ඒ මනුස්සයා නිකං අර භාග්‍යවතුන් වහන්සේව මැනලා මම බුදුරජාණන් වහන්සේගේ ප්‍රමාණය දැනගත්තා කියලා පණ්ඩිතකම් දොඩවන්න ආසාවෙන් තමයි මේක කරන්න ලෑස්ති වුනේ. බුදුරජාණන් වහන්සේ දැක්කා මේ අතුලට ධර්මාවාබෝධ කරන්නත් අවස්ථාව තියෙනවා. නමුත් මේ ඕන්නැති එහෙක පටලැවෙන්න යන්නෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ ඍද්ධියක් කලා. දැන් මේ අතුල උපාසක, මේ අතුල කියන මනුස්සයා ඒ වෙනකොට උපාසක නෙවෙයි. මේ අතුල කියන මනුස්සයා උණ ගහක් කපාගෙන භාග්‍යවතුන් වහන්සේ වඩින පාර අයිනේ තියාගෙන ඉන්නවා බුදුරජාණන් වහන්සේගෙ උස මැනගන්න ඕන කියලා. බුදුරජාණන් වහන්සේ එතෙන්ට වඩිනකොට තමන් ගාව තියෙන උණ ගහ බොහොම පුංචිවට ඔහුට පේනවා, බුදුරජාණන් වහන්සේ ඊට වඩා ගොඩාක් උසයි. හිතාගන්න බෑ බුදුවරුන්ගේ විෂය. අතුලට විතරයි වෙන්නෙ. අවසානෙ මේ මනුස්සයා දවස් දෙක තුනක් උත්සාහ කලා කියනවා උණගස් පිට උණගස් බැඳලා, කොච්චර කලත් කරගන්න බැරිව ගියා. අවසානෙ භාග්‍යවතුන් වහන්සේ වදාළා අතුලය ඔය ක්‍රමයට නම් බුදුවරු මනින්න බෑ කියලා. බුදුරජාණන් වහන්සේලා රූපකායෙන් ගත්තත්, අචින්තනීයයි. හිතාගන්න බෑ. බුදුරජාණන් වහන්සේ යම් අවස්ථාවල දෙව්ලොවට වැඩම කරනවාද, දෙව්ලොවදී පින්වතුනේ සියලු දෙවියන්ගේ ඒ දිව්‍යමය ශරීරය පරදවලා සම්බුදු සිරුරම බබළනවා කියනවා. දෙවිවරු කියලා කියන්නෙ පුණ්‍ය සම්පත්තිය පැත්තෙන් ගත්තොත් එහෙම, රූප සම්පත්තිය පැත්තෙන් ගත්තොත් මනුස්සයාට වඩා ගොඩාක් ඉහළින්නෙ ඉන්නෙ. බුදුරජාණන් වහන්සේ දෙව්ලොවට වැඩම කරනවා. භාග්‍යවතුන් වහන්සේ දෙව්ලොවට වැඩම කරපු අවස්ථාවල ඒ බුදුරජාණන් වහන්සේගේ උතුම් සම්බුදු සිරුරම සියලු දෙවියන්ගේ දේවානුභාවය පරදවලා බබළනවා. බුදුරජාණන් වහන්සේ ඇතැම් අවස්ථා වල බඹලොවට වැඩම කරනවා. බඹලොවට වැඩම කරපුවාම බ්‍රහ්මයන්ගේ බ්‍රහ්මකාය ඉක්මවා බුදුරජාණන් වහන්සේම බබළනවා. ඒ බුදුරජාණන් වහන්සේලා ආශ්චයර්යයි. ඒ බුදුරජාණන් වහන්සේලා අද්භූතයි. ඊළඟට මේ ඛේමා අර්හත් තෙරණින් වහන්සේ කියනවා මහරාජය, ඔය ගැන මෙන්න මෙහෙමයි තවදුරටත් තේරුම් ගත යුත්තේ. තථාගතයන් වහන්සේව යම්කෙනෙක් පනවන්නේ විදීමකින් නම්, ඒ විදීමෙන් තථාගතයන් වහන්සේ නිදහස් වෙලා ඉන්නෙ. ඒ විදීමෙන් තථාගතයන්

වහන්සේ නිදහස් වෙලා විඳීම කෙරෙහි ඇති තෘෂ්ණාව දුරු කරලා මුල් සිඳුණු, කරටිය සිඳුණු තල් ගසක් වගේ බවට පත් කරලා මුලින්ම සිඳලා දාලා තියෙන්නෙ. වේදනා කෙරෙහි තෘෂ්ණාවත් තථාගතයන් වහන්සේට නෑ. වේදනාව පිළිබඳව තෘෂ්ණා ගෙවාදැමීමෙන් නිදහස් වී ඇති තථාගතයන් වහන්සේ ගැන තේරුම් ගත යුත්තේ ගම්භීරයි කියාය. තථාගතයන් වහන්සේලා ගම්භීරයි. ඒ තථාගතයන් වහන්සේලා මිනුමකට අයත් වෙන් නෑ. තථාගතයන් වහන්සේ අප්‍රමාණ බැසගැනීම් ඇත්තේය මහා සයුර සේ. හරියට මහා සාගරය වගේ තථාගතයන් වහන්සේ ප්‍රමාණ කරන්න පුලුවන් කමක් නෑ. සක්කාවෙ මමමංගුලෙන මිනිතුං - අපේ දහම් පොත් වල තියෙනවා ගාථාවක්, සක්කාවෙ මම මංගුලෙන මිනිතුං - මේ අහස අඟලෙන් අඟල, අඟලෙන් අඟල මැනලා මෙච්චර අඟල් ගාණක් තියෙනවා කියන එක ප්‍රමාණ කරන එක කරගන්න පුලුවන් වෙයි. ඒක යම් කලෙක ලෝකයේ සිද්ධ වෙන්න පුලුවන්. ඒවා සිද්ධ නොවෙන ගණයට අයිති දේවල්. නමුත් එහෙම එකක් වුනා. කවුරුහරි කෙනෙක් මේ අහස අඟලෙන් අඟල මැනලා අහසේ අඟල් මෙච්චරක් තියෙනවා කියන එක ඒක වෙන්න පුලුවන් එකක්. සිංදූදකං බින්ධූතො - මහාසාගරයේ ජල කඳ මෙපමණයි මෙපමණයි කියලා වතුර බිංදු වශයෙන් මැනලා කෙනෙක් කිව්වත්, මේරුංසාසැප භාජනේ නිදහිතුං - මහාමේරු පර්වත රාජයාව ඍද්ධිමතෙකුගේ ඍද්ධියකින් අබ ඇටයක් තරම් කුඩා භාජනයක බැහැලුවත්, භූමිං නකග්න්තරේ - මුළු මහත් පෘථිවියම ඍද්ධිමතෙක් විසින් තමන්ගේ නිය සිල අස්සේ හංඟ ගත්තත්, කම්පේතුං සදරාදරං හිමදරං අච්ඡ තුලං සුනං - ඍද්ධිමතෙකුගේ ඍද්ධිමත් සුළඟකින් මේ හිමාල පර්වත රාජයාව හොලවලා දැම්මත්, නවජෙ නාතගුණොදතිං පදරිතුං කේනාපි ලෝකන්තෙ - ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේලාගේ නාත ජින වූ සම්බුදු වරුන්ගේ ගුණ කඳ කොහොම ප්‍රමාණ කරන්නද. ඒක ප්‍රමාණ කරන්න කෙනෙක් නෑ. අහස අඟල් වලින් මැන්නත් බුදුගුණ ප්‍රමාණ කරන්න බැරිය. මුහුදේ වතුර බිංදු ගාන මැන්නත් බුදු ගුණ ප්‍රමාණ කරන් බැරිය. එක අවස්තාවක ශාක්‍යපුත්‍රීය කියලා තෙරුන් වහන්සේ නමක් ජිනොරස කියලා මහතෙරුන් වහන්සේ නමක් එක්ක ගමනක් වැඩම කලා. මේ ජිනොරස කියන මහතෙරුන් වහන්සේ ඉස්සරහින් වඩිනවා. පිටිපස්සෙන් යන්නෙ ශාක්‍යපුත්‍රීය කියන තෙරුන් වහන්සේ. ශාක්‍යපුත්‍රීය තෙරුන් වහන්සේ එදා බුදුගුණ සිහි කර කර තමයි මේ ගමන වැඩම කලේ. දැන් උන්වහන්සේ සිහි කර කර යනවා, ඒ බුදුරජාණන් වහන්සේ සියලූම කෙලෙස් නැසූ සන්තානයක් උන්වහන්සේට තිබුනේ, අරහං. ඒ බුදුරජාණන් වහන්සේ

සම්මා සම්බුද්ධයි. ගුරු උපදේශ නැතිව චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කලා. ඒ බුදුරජාණන් වහන්සේ විජ්ජාචරණ සම්පන්නයි. අවබෝධයට අනුවම ජීවිතය ගත කලා. ඒ බුදුරජාණන් වහන්සේ සුගතයි. කෙලෙස් පීඩා කිසිවක් නැති සුන්දර නිවනට වැඩම කලා. ඒ බුදුරජාණන් වහන්සේ ලෝකවිදූ, මේ දුක් විඳින ලෝකයෙන් භාග්‍යවතුන් වහන්සේ නිදහස් වුනා. අනුත්තර පුරිසදම්මසාරථී, මාගේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ පුරුෂයන් දමනය කිරීමෙහි ලා අනුත්තරීය උත්තමයන් වහන්සේ. උන්වහන්සේ ළඟ දෙවිවරුන් දමනය වුනා. උන්වහන්සේ ළඟ බ්‍රහ්මයෝත් දමනය වුනා. උන්වහන්සේ ළඟ පින් තියෙන මනුස්සයෝත් දමනය වුනා. උන්වහන්සේ ඉදිරියේ යක්ෂයෝත් දමනය වුනා. අනුත්තර පුරිසදම්මසාරථී. උන්වහන්සේ තමයි දෙවියන්ටත් මිනිස්සුන්ටත් සොඳුරු නිවනට මඟ කියාදෙන ආචාර්‍යවරයා, ගුරුවරයා, සත්ථාදේවමනුස්සානං. දෙව් මිනිස්සුන්ගේ ශාස්තෘන් වහන්සේ. උන්වහන්සේ අවබෝධ කරපු සද්ධර්මය හරී ලස්සනට කියලා දුන්නානෙ. ඒකාන්තයෙන්ම බුද්ධ. මේ සියලු ගුණ දරාගෙන වැඩ හිටින්න තරම් භාග්‍යවන්ත වෙච්ච උත්තමයා මාගේ බුදුරජාණන් වහන්සේ, ඒකාන්තයෙන්ම භගවා කියලා දැන් මේ බුදුගුණ සිහි කර කර, බුදු ගුණම මෙනෙහි කර කර ශාක්‍යපුත්‍රීය තෙරුන් වහන්සේ වැඩම කලේ. ඒ වැඩම කරද්දි එකපාර සන්තෝෂයක් ඇතිවුනා. ඇතිවෙලා කියවුනා අනේ ස්වාමීනී ඒ අපගේ බුදුරජාණන් වහන්සේගේ ගුණස්කන්ධය, ඒ මහා බුදුගුණ කඳ පොත් වල ලියන්න ගත්තොත් පොත් වල ලියලා ලියලා බුදුගුණ එකතු කලොත් මේ මහා පෘථිවියේ අකනිටා බඹලොව දක්වාම සුවිශාල පොත් කන්දක් හැදෙයි නේද කියලා කියවුනා. ඒ කිව්වෙ කාටද, ඉස්සරහින් වැඩම කරපු ජිනොරස කියන මහතෙරුන් වහන්සේට. ජිනොරස කියන මහතෙරුන් වහන්සේ නැවතිලා. නැවතිලා සම්පූර්ණයෙන්ම ශරීරය හරවලා ශාක්‍යපුත්‍රීය තෙරුන් වහන්සේ දිහා බැලුවා. බැලුවෙ සතුටකින් නෙවෙයි. කිව්වා ඈ ශාක්‍යපුත්‍රීය, බුදුරජාණන් වහන්සේ අවමන් කරනවා නොවැ කිව්වා. එතකොට ශාක්‍යපුත්‍රීය තෙරුන් වහන්සේ කියනවා අනේ ස්වාමීනී, මං බුදුරජාණන් වහන්සේට අවමන් කලා නම් නොවෙයි. මං බුදුගුණ වර්ණනා කලා. ශාක්‍යපුත්‍රීය බුදුගුණ වර්ණනා කරන්නෙමි, බුදුගුණ වර්ණනා කරන්නෙමි යි කියා අනන්ත ගුණ ඇති බුදුරජාණන් වහන්සේගේ ගුණ කඳ ඔබ කොහොමද ප්‍රමාණ කරන්නෙ. ඒ බුදුරජාණන් වහන්සේගේ ගුණ ගැන දරාගත යුත්තේ අනන්තයි අප්‍රමාණයි කියලායි. බලන්න අපි සරණ ගියපු ශාස්තෘන් වහන්සේගේ ගුණ. ඒ බුදුරජාණන් වහන්සේව විදීමකින් පෙන්වන්න බෑ

කියනවා. හේතුව භාග්‍යවතුන් වහන්සේ සියලු විඳීම් කෙරෙහි ඇති තෘෂ්ණාව දුරු කර දැමුවා. මහාරාජය, තථාගතයන් වහන්සේව පෙන්වන්නේ යම් සංඥාවකින් නම්, ඒ සංඥාව තථාගයන් වහන්සේව පනවන්නේ යම් සංඥාවකින් නම්, ඒ සංඥාව තථාගතයන් වහන්සේට ප්‍රහීන වෙලයි තියෙන්නෙ. මුලින්ම සිඳිලයි තියෙන්නෙ. කරටිය සිඳුනු තල් ගසක් මෙන් වෙලයි තියෙන්නෙ. අභාවයට පත්වෙලයි තියෙන්නෙ. නැවත නූපදින තත්වයට පත්වෙලයි තියෙන්නෙ. මහාරාජය සංඥාව පිළිබඳ තෘෂ්ණාව ගෙවා දැමීමෙන් තථාගතයන් වහන්සේ නිදහස් වූ නිසා තථාගතයන් වහන්සේ ගම්භීරයි මහාසාගරය වගේ. තථාගතයන් වහන්සේව මිනුමකට ගන්න බෑ කිව්වා. යම් සංඥාවක් තුළින් තථාගතයන් වහන්සේව පනවන්න පුලුවන්කමක් නැතිය කිව්වා. අන්න ඒ නිසා බුදුරජාණන් වහන්සෙ සම්බන්ධයෙන් ඔය කියපු කාරණා පැනවෙන් නෑ. භාග්‍යවතුන් වහන්සේ මරණින් මතු ඉන්නවා, භාග්‍යවතුන් වහන්සේ මරණින් මත්තෙ නෑ, භාග්‍යවතුන් වහන්සේ මරණින් මත්තෙ ඉන්නෙත් නෑ, නැත්තෙත් නෑ, මේ කිසිම කාරණාවක් බුදුරජාණන් වහන්සේ සම්බන්ධයෙන් පනවන්න පුලුවන්කමක් නෑ, යෙදෙන් නෑ. මහාරාජය යම් සංස්කාර වලින් නම් තථාගතයන් වහන්සේව පනවන්නෙ, ඒ සියලු සංස්කාරයෝ තථාගතයන් වහන්සේට ප්‍රහීන වෙලයි තියෙන්නෙ. මුලින්ම සිඳිලයි තියෙන්නෙ, කරටිය සිඳුණු තල් ගහක් වගේ වෙලා අභාවයට පත්වෙලා තියෙන්නෙ, යලි නූපදින ස්වභාවයට පත්වෙලා තියෙන්නෙ. ඒ නිසා මහාරාජය, සංස්කාර පිළිබඳව තෘෂ්ණාව ගෙවා දැමූ තථාගතයන් වහන්සේ ගම්භීරයි. ඒ තථාගතයන් වහන්සේ මහා සාගරය වගේ ප්‍රමාණ කරන්න පලුවන්කමක් නෑ. යම් කිසි විඤ්ඤාණයකින් නම් බුදුරජාණන් වහන්සේව පනවන්නෙ, ඒ විඤ්ඤාණයත් තථාගතයන් වහන්සේට ප්‍රහීන වෙලයි තියෙන්නෙ. තථාගතයන් වහන්සේව විඤ්ඤාණයකින් පනවන්නත් බෑ කිව්වා, ගම්භීරයි. හරී අසිරිමත්, හරී අද්භූතයි, සම්බුදුවරු. මේ ලෝකයේ යම් කිසි උත්තමයෙකුට, යම්කිසි කෙනෙකුට කියනවා නම් ආශ්චර්‍ය්‍ය මනුස්සයා කියලා අච්චරිය මනුස්ස කියලා කියන්න තියෙන්නෙ ඒ භාග්‍යවත් වූ අර්හත් වූ අපගේ සම්මා සම්බුදුරජාණන් වහන්සේටයි. බුදුරජාණන් වහන්සේ තමයි අච්චරිය මනුස්සයා. ආශ්චර්‍ය්‍යවත් මනුස්සරත්නය. ඒ භාග්‍යවතුන් වහන්සේ ගැන රාහු කියන අසුරයාට තිබුනා මෙන්න මෙහෙම හැඟීමක්. රාහු අසුරයා කියලා කියන්නෙ මේ ලෝකයේ ඉන්න විශාලම ශරීරය තියෙන කෙනා. ශරීර වලින් ලොකුම ශරීරය තියෙන්නෙ රාහුට. ඒ ශරීරය ගැන කියනකොට කියනවා නිකං

අපිට තේරුම් ගන්න පුලුවන් කොච්චර ලොකු ඇත්ද කියලා, රාහුගේ කට සාමාන්‍යයෙන් යොදුන් එකසිය පනහක් විතර වගේ තියෙනවා කියනවා. යොදුන් ගණන් කටක් විතරක්. ඉතින් ඒ වගේ මහා සුවිශාල ශරීරයක් ඔය රාහුට තිබුනා කියනවා ඇතැම් අවස්ථාවල රාහු අසුරේන්ද්‍රයාට හිතෙනවා කියනවා වර්ෂාව වහින වෙලාවට ඒ වැහි වතුර දෝතින් ගන්න හිතෙනවා. එතකොට වහින්න තියෙන වැස්ස රාහුගේ දෝතින් අරගෙන රාහු මහාසාගරයට දානවා. වැස්ස නැතිව යනවා. එහෙම මහා විසාල ශරීරයක් තිබුනා. ඔය විශාල ශරීරය තියෙන නිසා රාහුට බුදුරජාණන් වහන්සේ දකින්න කැමැත්තක් තිබ්බෙ නෑ. රාහු කල්පනා කලා මං වගේ මහා ශරීරයක් තියෙන කෙනෙක් ඔය බුදුරජාණන් වහන්සේ කියන ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ කියන ඒ ශ්‍රමණයන් වහන්සේ හරි චූටි කෙනෙක්. ඒ චූටි කෙනා ළඟට ගිහිල්ලා කොහොම සංවාදයක් කරන්නද, එහෙම හිතුවා. හැබැයි ඔය රාහුට නිතර නිතර අහන්න ලැබෙනවා බුදුරජාණන් වහන්සේගේ ආශ්චර්‍යයීය ගැන. දවසක් හිතුනා කෝකටත් ගිහින් බලන්න ඕන කියලා. භාග්‍යවතුන් වහන්සේ දකින්න රාහු අසුරේන්ද්‍රයා විහාරයට එනවා. ඒ විහාරයට පැමිණෙන වෙලාවේ රාහුට බුදුරජාණන් වහන්සේව පේන් නෑ, බුදුරජාණන් වහන්සේගේ හඬ ඇහෙනවා, ගම්භීර හඬකින්. එතකොට රාහු කියනවා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, මම බොහෝ කලකට පස්සෙයි ඔබවහන්සේව දකින්න මේ එන්නෙ. ස්වාමීනී මම කැමැතියි ඔබ වහන්සේව දැකගන්න. මට ඔබවහන්සේව පෙනෙන්න සලස්වන්න කිව්වා. එතකොට බුදුරජාණන් වහන්සේ රාහුට කියනවා, රාහු ඔහේ උඩ බලන්න ඕන, හිස ඔසවා ඉහළ බලන්න ඕන. ඉහළ බැලුවොත් ඔබට තථාගතයන් වහන්සේව දැකගන්න පුලුවන්. සුවිශාලම ශරීරය තියෙන්නෙ රාහු අසුරේන්ද්‍රයාටත් වඩා සුවිශාල ශරීරයකින් භාග්‍යවතුන් වහන්සේ ඒ මොහොතේ වැඩ හිටියේ, දමනය කරන්න. ඉතින් රාහු අසුරේන්ද්‍රයා ඒ වෙලාවේ දමනය වුනා. රාහු අසුරේන්ද්‍රයා ඒ මොහොතේම භාග්‍යවතුන් වහන්සේගේ මහා පෙළහැර දැකලා දමනය වුනා. ඉතින් පසේනදී කෝසල රජතුමා, අපේ ඛේමා රහත් තෙරණින් වහන්සේත් එක්ක ඔය දහම් කතාව කලාම, ශාස්තෘන් වහන්සේ ගැන තව තවත්, තව තවත් පැහැදී ගියා. පැහැදලි පසේනදී කෝසල රජ්ජුරුවො කියනවා ඛේමා භික්ෂුණියට සාදු සාදු කියලා භාෂිතය අනුමෝදන් වුනා. අනුමෝදන් වෙලා ඛේමා භික්ෂුණින් වහන්සේට වන්දනාමාන කරලා ප්‍රදක්ෂිණා කරලා රජ්ජුරුවො පිටත් වුනා. ඊටපස්සෙ පසේනදී කෝසල රජ්ජුරුවො මේක

සිදුවුනේ පස්සෙ කාලෙක. දැන් ඔය තෝරනවත්ථුවේදී ඔය දහම් කතාව සිදුවුනා. සිද්ධ වෙලා ටික කාලෙකට පස්සෙ කෝසල රජ්ජුරුවො භාග්‍යවතුන් වහන්සේ බැහැදැකීම පිණිස සැවැත්නුවර ජේතවනාරාමයට යනවා. ගිහිල්ලා භාග්‍යවතුන් වහන්සේත් එක්ක ඛේමා භික්ෂුණියත් එක්ක දහම් කතාවක් සිද්ධ වුනා කියන කාරණය කියන් නැතිව බුදුරජාණන් වහන්සේගෙනුත් අර ප්‍රශ්න හතර ඇහුවා. මොනවද අහපු ප්‍රශ්න හතර, ස්වාමීනී තථාගතයන් වහන්සේ මරණින් මත්තෙ ඉන්නවාද, තථාගතයන් වහන්සේ මරණින් මත්තෙ නැද්ද, තථාගතයන් වහන්සේ මරණින් මත්තෙ ඉන්නවාද නැද්ද, තථාගතයන් වහන්සේ මරණින් මත්තෙ ඉන්නෙත් නැද්ද, නැත්තෙත් නැද්ද. ඒ අහන අහන වතාවෙ බුදුරජාණන් වහන්සේත් උත්තර දුන්නා මහාරාජය භාග්‍යවතුන් වහන්සේ සම්බන්ධයෙන්, තථාගතයන් වහන්සේ සම්බන්ධයෙන් ඔය කාරණය පැනවෙන් නෑ, ඕවාට බුදුරජාණන් වහන්සේ පිළිතුරු දීලා නෑ. පිළිතුරු දුන්නෙ නෑ කියලාම දරාගන්න කිව්වා. බුදුරජාණන් වහන්සේලා පින්වතුනේ වාදයට හේතුවෙන කරුණු වලට පිළිතුරු දුන් නෑ. හේතුව වාදයකට තුඩු දෙන කාරණයට පිළිතුරක් දුන්නා කියලා ඒක වාදයේම පටලැවිල්ලක් මිසක් ඒකෙන් ජීවිතයට සැනසිල්ලක් උදාවෙන් නෑ. බුදුරජාණන් වහන්සේලා අනුකම්පාවෙන් යුක්තයි. අනුකම්පාවෙන් යුක්ත ශාස්තෘන් වහන්සේ සත්‍යම දේ වුනත්, සිද්ධ වෙච්චි සත්‍යම දේ වුනත් මනුස්සයාට අර්ථය පිණිස හේතුවෙන් නැත්නම්, ඒ කාරණය දේශනා කරන් නැනෙ. හේතුව බුදුරජාණන් වහන්සේලාට අනුකම්පාව තිබීම. භාග්‍යවතුන් වහන්සේ අභය කියන රාජකුමාරයාට එක අවස්ථාවක දේශනා කලා රාජ කුමාරය, බුදුවරු වනාහි ලොවට අනුකම්පා ඇති අයයි. ලොවට අනුකම්පා ඇති බුදුවරු සත්‍යයම කාරණයත් මිනිස්සු කොච්චර අහන්න ආසා වුනත් අනර්ථවත් නම් කියන්නේ නැත. ඒක තමයි පින්වතුනේ ආශ්චර්‍යවත් සන්නිවේදනය. ඒ සන්නිවේදනය තිබුනේ අපගේ ශාස්තෘන් වහන්සේ අනුකම්පාව පිරිච්චි සන්නිවේදනය. දැන් බලන්න මේ ලෝකෙ මාධ්‍ය ගත්තහම. මේ ලෝකයේ මාධ්‍ය වල, විශේෂයෙන් ප්‍රවෘත්ති මාධ්‍ය ගත්තහම රටේ ලෝකෙ සිද්ධ වෙන හැම එකම කියනවා. ඒ කියන ඒවා අහගෙන මිනිස්සුන්ට මිනිස්සු නොයෙක් නොයෙක් ඇවිස්සිලි වල, මිනිස්සුන්ට සහනයක් සුවයක්අර්ථයක් හැම ප්‍රවෘත්තියකින්ම ලැබෙන් නෑ. හැබැයි අර්ථයක් ලැබුනත් එකයි නැතත් එකයි මාධ්‍යය විසින් හැම එකම කියනවා. ඇයි මාධ්‍ය කරන කිසිකෙනෙකුට මනුස්ස වර්ගයා කෙරෙහි අනුකම්පාව නෑ. අපගේ අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ අපි බුද්ධං සරණං ගච්ඡාමි කියලා අපි සරණ

ගියපු අපේ ශාස්තෘන් වහන්සේ මේ මනුස්ස වර්ගයාට, මේ සත්ව වර්ගයාට අනුකම්පා කලා. ඒ අනුකම්පාව නිසා අනර්ථවත් දෙයක් සිරිසම්බුදු මුවමඩලින් කවදාවත් පිටවුන් නෑ. බුදුරජාණන් වහන්සේ දේශනා කලේ අර්ථයක් තියෙන් දෙයක්. භාග්‍යවතුන් වහන්සේ එක අවස්ථාවක දේශනා කරනවා ඇට්ටේරියා වනයේදී සිංසපාවන සූත්‍රය. ඇට්ටේරියා වනයට වැඩම කරලා බුදුරජාණන් වහන්සේ බිම වැටිලා තිබුනු ඇට්ටේරියා කොළ මිටක් මෙහෙම දෝතට අරගත්තා. අරගෙන භාග්‍යවතුන් වහන්සේ අහනවා මහණෙනි, තථාගතයන් වහන්සේගේ ශ්‍රී හස්තයේ තියෙන ඇට්ටේරියා කොළද වැඩි එහෙමත් නැත්නම් මේ වනයේම තියෙන ඇට්ටේරියා කොළද? භික්ෂූන් කියනවා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස මේ වනයේම තියෙන ඇට්ටේරියා කොළ ප්‍රමාණය තමයි ගොඩාක් වැඩි. බුදුරජාණන් වහන්සේ සමීපයේ තියෙන්නෙ හරී චුට්ටයි. මහණෙනි තථාගතයන් වහන්සේ අවබෝධ කරපු දේවල් මේ ඇට්ටේරියා වනයේම කොළ ප්‍රමාණය නම් තථාගයන් වහන්සේ ඔබට දේශනා කරන්නේ තථාගතයන් වහන්සේගේ ශ්‍රී හස්තයේ තියෙනවා වගේ පොඩ්ඩයි. ඇයි මහණෙනි තථාගතයන් වහන්සේ එහෙම ටිකක් දේශනා කරන්නෙ? ඒ දේශනා කරන ටික තමයි ඔබට අර්ථය පිණිස, සැපය පිණිස සුවය පිණිස නිවන පිණිස හේතුවෙන්නෙ. අනිත් ඒවා වැඩක් නෑ කිව්වා. මහණෙනි ඒ දේශනා කරන ලද තථාගතයන් වහන්සේ මේ ලෝකයට දේශනා කරන ලද මනුස්ස වර්ගයාට මිද්දිදාව පිණිස හේතුවෙන, මිද්දිදාව කියලා කිව්වෙ අවබෝධයෙන් කළකිරීම පිණිස හේතුවෙන සසරේ නොඇල්ම පිණිස හේතුවෙන, සසරේ දුක් නිරුද්ධ කිරීම පිණිස හේතුවෙන කෙලෙස් සංසිඳීම පිණිස හේතුවෙන අවබෝධය පිණිස හේතුවෙන, නිවන පිණිස හේතුවෙන ඒ දේශනා කරන ලද ස්වල්පය කියන්නෙ කුමකටද? ඒ වනාහි චතුරාර්ය සත්‍යයයි. බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ තමයි දුක. මේ තමයි දුකේ හටගැනීම. මේ තමයි දුක්ඛ නිරෝධය නම් වූ නිවන. මේ තමයි දුක් නිවන ප්‍රතිපදාව වන ආර්ය අෂ්ටාංගික මාර්ගය කියලා චතුරාර්ය සත්‍යය දේශනා කලේ බුදුරජාණන් වහන්සේ ඒ චතුරාර්ය සත්‍යය දේශනාව තමයි මේ සත්ව වර්ගයාට සැපය පිණිස යහපත පිණිස අවබෝධයෙන් කළකිරීම පිණිස, සසරේ නොඇල්ම පිණිස, කෙලෙස් සංසිඳීම පිණිස නිවන පිණිස හේතුවෙන දේ. ඒ නිසා ඒ ටික තමයි බුදුරජාණන් වහන්සේලා දේශනා කරන්නෙ. ඔය අහන අහන එකට බුදුවරු අර්ථකථන දෙන්න යන්නෙ නෑ. එතකොට භාග්‍යවතුන් වහන්සේ මේ කාරණාව වදාරපුවාම රජ්ජුරුවන්ට හරී සන්තෝෂයක් ඇතිවුනා. රජ්ජුරුවො කියනවා

ස්වාමීනී ආශ්චර්යයියි, ස්වාමීනී පුදුම සහගතයි, යම් හෙයකින් ශාස්තෘන් වහන්සේගේ වචනයක්, ශාස්තෘන් වහන්සේගේ ශ්‍රාවිකාවකගේ වචනයක් එකිනෙකට ගැලපිලා ගියපු හැටි නම් හරි ආශ්චර්යයියි. ස්වාමීනී මං මේ කාරණයම ඛේමා නම් වූ භික්ෂුණිය සමඟ, ශාස්තෘන්වහන්සේගේ ශ්‍රාවිකාව සමඟ තෝරනවත්ථුවේදී කතා කලා. ඔබවහන්සේ යම් විදියකට උත්තර දුන්නා නම් ඒ විදියටම කිසිම අඩුවක් නැතිව ඒ භික්ෂුණිය මට මේ කාරණය ගැන කියලා දුන්නා. ස්වාමීණී වචනයෙන් වචනය සැසඳිලා ගියා. අර්ථයෙන් අර්ථය සංසිඳිලා ගියා, කිසිම වෙනසක් නෑ කිව්වා. එතකොට රජ්ජුරුවො ඔන්න ඔය විදියට බොහෝම පහන් සිත් ඇතිකරගෙන රජ්ජුරුවො කියනවා, ස්වාමීණී එහෙම නම් අපි දැන් පිටත් වෙන්නම්, අපිට බොහෝ කටයුතු තියෙනවා කිව්වා. ඉතින් භාග්‍යවතුන් වහන්සේ ඒ වෙලාවේ රජ්ජුරුවන්ට කියනවා, මහරජ, යමක් කිරීම පිණිස කාලය නම් ඒක දැන් දැනගන්න කියනවා. ඉතින් ඔය දේශනාව ඛේමා රහත් තෙරණින් වහන්සේත් එක්ක සිද්ධ වෙච්චි නිසා ඛේමා අර්හත් තෙරණින්ගේ ප්‍රඥා කෞෂල්‍යය ඉස්මතු වෙන දේශනාවක් නිසා සංගීතිකාරක රහතන් වහන්සේලා ඔය ධර්මය සංගායනා කලේම ඒ අර්හත් උත්තමාවියගේ නමින්. ඛේමා සූත්‍රය. ඒ ඛේමා සූත්‍රයේදී ඛේමා භික්ෂුණීන් වහන්සේ තමන් වහන්සේ ගැන නෙවෙය කිව්වෙ. තමන් වහන්සේට සියලු සුවය ලබාදුන් ශාස්තෘන් වහන්සේ ගැන. ශාස්තෘන් වහන්සේලේ අනන්ත අප්‍රමාණ ගුණ ගැනයි. නරන්ති තෙ සීහනාදං බුද්ධා ලෝකෙ අනුත්තරාති - රහතන් වහන්සේලා තමයි, රහත් තෙරණින් වහන්සේලා තමයි මේ ලෝකයේ සිංහනාද කරන්නෙ. බුදුවරුමයි ලොව අනුත්තර, බුදුවරුමයි ලොව ශ්‍රේෂ්ට. ඒ නිසා පින්වතුනි අනන්ත ගුණ තියෙන අප්‍රමාණ ගුණ තියෙන සම්බුදුරජාණන් වහන්සේ නමක් සරණ යන්න ලැබීම ගැන අපි කොච්චර සතුටු වෙන්න ඕනද. එබඳු ශාස්තෘන් වහන්සේ නමක් අපිට සරණ යන්න ලැබුනා කියල අපි කොච්චර සන්තෝෂ වෙන්න ඕනද, මේ මනුස්ස ජීවිතේ බුදුසරණ ලබන්න වාසනාව ලැබිච්ච අය. බුදුරජාණන් වහන්සේගේ සරණ කියලා භාග්‍යවතුන් වහන්සේ වදාළේ මේ ලෝකයේ මහණෙනි, යම්තාක් සත්වයෝ සිටිනවාද අපදාවා- පාද නැති සත්තු, දෙපදාවා - දෙපා ඇති සත්තු, චතුප්පදාවා - පාද හතරේ සත්තු, බහුප්පදාවා - පාද ගොඩාක් තියෙන සත්තු, සංඥිනෝවා - සංඥාවක් තියෙන සත්තුඑ, අසංඥිනෝවා, සංඥාවක් නැති සත්තු, රූපිනෝවා - රූපවත් සත්තු, අරූපිනෝවා - අරූපවත් සත්තු, නෙවසංඤා නාසංඤා වා - සංඥාවක් ඇත්තේත් නැති නැත්තේති නැති මේ නොයෙක් නොයෙක්

ජාතීන්ගේ සත්තු යම් තාක් ඉන්නවාද, දෙවියන් සහිත මේ ලෝකයේ බුදුරජාණන් වහන්සේමයි අග්‍ර. දෙවියන් සහිත වූ මේ ලෝකයේ බුදුරදුන්මයි අග්‍ර. උද්දං තිරියං අපාචීණං යාවතා ජගතො ගති - උඩ යට සරසට යම්තාක් මේ ලෝකයේ උපත් ඇත්ද, යම්තාක් සත්වයෝ ඇත්ද, සදේවකස්ස ලෝකස්ස බුද්ධො අග්ගොති පවුච්ඡති - දෙවියන් සහිත ලෝකයේ බුදුරජාණන් වහන්සේමයි අග්‍ර වෙන්නෙ. ඒ අග්‍ර වූ බුදුරජාණන් වහන්සේ කෙනෙකුගේ හිත පැහැදුනොත් අග්ගෙකො පන පසන්නානං අග්ගො විපාකො හොති - අග්‍ර වූ විපාකම ලැබෙන්නේය කියලා බුදුරජාණන් වහන්සේ දේශනා කලේ ඒ නිසා. අපිත් අපිට මේ මනුස්ස ජීවිතේ බුදුගුණ දැනගෙන ඒ බුදුරජාණන් වහන්සේව සරණ යන්න අවකාශ ලැබුනා. අපිත් ඒ අග්‍ර වූ බුදුරජාණන් වහන්සේව හදවතින්ම සරණ යමු. ඒ බුදුරජාණන් වහන්සේට අපගේ නමස්කාරය වේවා, සාදු සාදු සාදු!!!

අද දවසේ මේ උතුම් ධර්ම දේශනාවෙන් අප රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අනුමෝදන් කරමු පළමුවෙන් සියලු දෙවිවරුන්ට, සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරු, සෙන්පති දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවියෝ සතුටින් මේ පින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන් වෙන දෙවිවරු සියලු යස ඉසුරින් දිව්‍ය ආශ්වයයීයෙන් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ රැකවරණය උපකාරය අප හැමදෙනා හට දෙවියෝ නොඅඩුව සළසා දෙත්වා. දෙවියෝද සංසාර දුකින් අතමිදේවා. සාදු සාදු සාදු!!! අපගේ ගුරු දේවෝත්තම කළ්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට සියලූම පින් අනුමෝදන් වෙලා නිදුක් නිරෝගී සුව සැලසේවා. දීර්ඝායුෂ සැලසේවා. ගුරු දේවයන් වහන්සේට ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලුම පූණ්‍ය ධර්මයන් අද ධර්ම දානමය පින්කම සිදු කරන පින්වතුන්ලා ප්‍රධාන අරමුණ වශයෙන් සඳහන් කොට ඇති පරිදි 2021 ජූනි මාසයේ 24 වෙනි දිනට 35 වෙනි ජන්ම දිනය යෙදුනු ඩුබායි හි සේවයේ නියුතු පින්වත් පී.කේ. තිළිණි නිසංසලා මහත්මියට මේ සියලු පින්වල ආශිර්වාදය තෙරුවනේ ආශිර්වාදය, සියලු දෙවියන්ගේ ආශිර්වාදය සැලසී නිදුක් නිරෝග සුවය සැලසේවා, දීර්ඝායුෂ සැලසේවා, ගෞතම ශාසනය තුළ සුවසේම දහමේ හැසිරී චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න ලැබේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම ගාල්ලේ පදිංචි පින්වත් හසන්ත මධුසංක වීරසිංහ සහ දිනූෂා තරංගනී වීරසිංහ යන ඒ පින්වන්ත දෙපලට පින්වන්ත දරු සම්පතක් ලැබීම පිණිස මේ

පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදය, රත්නත්‍රයේ ආශිර්වාදය සියලු දෙවියන්ගේ ආශිර්වාදය නොඅඩුවම සැලසෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. තමන්ගේ නමින් මියපරලොව ගියා වූ පින්වත් පී.කේ. චාර්ලිස් සිල්වා, එල්.ජී.එච්. පුංචිනෝනා, ගුණපාල, පී.කේ. රත්නපාල, කමලා මල්ලිකා, පද්මිණි මල්ලිකා, එල්.එච්.ඩබ්ලිව්. චාර්ලිස් සිල්වා, එම්.පී.එන්. සිසිලියා නෝනා, අමපාල, එල්.එච්.ඩබ්ලිව්. රත්නපාල, ඉන්ද්‍රාවතී, කමලාවතී, එල්.එච්.ඩබ්ලිව්. අනූෂා දිල්රුක්ෂි, වයි.ආර්. කාන්තිලතා මැණියන්, වයි.ආර්. කලුඅප්පුහාමි සීයා ඇතුලු ඒ නමින් මියගියා වූ සියලු ඥාතීන්ට සියලු හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන් වෙලා ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා. අපගේ ඥාතීන් මේ දුක් සහිත වූ සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදන් කරන්න. සුජීවත්ව සිටින පින්වත් පී.කේ. බන්ධුපාල සහ එල්.එච්.ඩබ්ලිව්. මානවතී යන දෙමව්පියන්ට මේ සියලුම පින් අනුමෝදන් වෙත්වා. ලසිකා ප්‍රියදර්ශනී, තුෂාරී නිසංසලා, රුවිනි නිසංසලා යන සහෝදරියන්ටත්, ඉෂාන් මහතාට, ටෙරන් මහතා ඇතුළු ඩුබායි මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ සියලු පින්වතුන්ලාටත් මේ සියලු පින් අනුමෝදන් වෙලා නිදුක් නිරෝග සුව සැලසේවා, චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. 2021 ජූනි මාසෙ 26 වන දින ජන්ම දිනය යෙදුනු පින්වත් සමන්තිකා ප්‍රියදර්ශනී සහෝදරියට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා. 2021 ජූනි මාසෙ 10 වන දින ජන්මදිනය යෙදුනු තිහස්නා තාරින්‍යා පුංචි දියණියට මේ සියලූම පින් අනුමෝදන් වෙත්වා. 2021 ජූනි මාසෙ 15 වන දින ජන්මදිනය යෙදුනු ජීවනී නිසංසලා මහත්මියට, 2021 ජූනි මාසෙ 29 වන දින ජන්මදිනය යෙදුනු දුලක්ෂි ආකර්ශා යන මේ පින්වත් හැමදෙනාට මේ සියලූම පින් අනුමෝදන් වෙලා නිදුක් නිරෝගී සුව දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ඒ හැමදෙනාටත් සුවසේ දහම් මග දියුණු කරගෙන සුවසේ පින් රැස් කරගෙන ගෞතම ශාසනයේ ධර්මාවබෝධ කරන්න ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. විශේෂයෙන් හදිසියේ ශල්‍යකර්මයකට පත් වූ සමන්තිකා ප්‍රියදර්ශනී සොහොයුරියටත්, ඩිලානි පීරිස් සොයුරියටත් මේ සියලු පින් වල ආශිර්වාදය තෙරුවනේ ආශිර්වාදය, සියලු දෙවියන්ගේ ආශිර්වාදය රැකවරණය හේතු වෙලා ඉතා ඉක්මණින්ම නිදුක් නිරෝගී සුව ශාන්තිය ලැබේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. අද ධර්ම දානය සිදු කරන ඩුබායි හි සේවයේ නියුතු පින්වත් පී.කේ. තිළිණි නිසංසලා මහත්මිය ගාල්ලේ පදිංචි හසන්ත මධුසංඛ වීරසිංහ

සහ දිනූෂා තරංගනී වීරසිංහ යන ඒ පින්වතුන්ලාටත් ඒ පින්වතුන්ලාගේ පවුල්වල සෑම සියලු දෙනාටත්, ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සියලු දෙනාටත් සුපින්වතුන්ලා හැමදෙනාටත් පින් අනුමෝදන්ව සියලු දෙනාට නිදුක් නිරෝගී සුවය, දීර්ඝායුෂ සැලසේවා. මේ දුර්ලභ මනුස්ස ජීවිතයට මුණ ගැහිච්ච උතුම් කල්‍යාණ මිත්‍ර ඇසුරේ ඔබ හැමදෙනාට සුවසේ පින් රැස් කරගන්නටත්, සුවසේම දහම් මග දියුණු කරගන්නත් මේ ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්නත් වාසනාව ලැබෙත්වා, හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=1r4iU--82io

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද දවසේ මේ උතුම් ධර්ම දේශනාවට දායකත්වයන් දරනු ලබනවා පින්වතුන්ලා කිහිප දෙනෙක්ම ඒකරාශී වෙලා, පින්වත් ආලෝකා, අනුලාවතී, කරුණාවතී, කුමාරිහාමි, රුක්මණී, බිසෝමැණිකා, අචලා, සමුද්‍රිකා, තුෂාරා, අජන්තා, සචිනි, හිරන්‍යා, අනුෂිකා, රවිඳු, අෂේන්, බුද්ධිකා, දිනේෂිකා, ඉරේෂිකා, මධුෂානි, උපේක්ෂා, දිනූෂා, ස්වර්ණා, මල්ලිකා, ගාමිණී, ඉලේපෙරුම, රුවනි, ලක්මිණී, කාන්ති, සුමුදු, සුපුනි, ශශිනි, කුමාර, සචිනි, මධාරා, නිමාලි, නිශාන්ත, ලක්ෂිකා, මේනකා සහ

රාධිකා කියන මේ සැදැහැවත් පින්වතුන්ලා. මේ පින්වතුන්ලා හැමදෙනාම එකතු වෙලා තමයි අද ධර්ම දානය සිද්ධ කරන්නෙ. තමන්ගේ ජීවිතයට සියලු දානයන් පරදවන උතුම් අග්‍ර දානය, සබ්බ දානං ධම්ම දානං ජිනාති - සියලු දානයෝ පරදවා ධර්ම දානයම දිනන්නේය. මොකද ධර්මය දන්දීම ගැන භාග්‍යවතුන් වහන්සේ වදාළේ ධර්මය දෙන තැනැත්තා අමෘතය දෙන්නේය. අමෘතය කියන එකේ අදහස, සැනසිල්ල. ධර්මය දෙන තැනැත්තා සැනසිල්ල දන්දෙන කෙනාය. මේ මනුස්සයාගේ ජීවිතයට මේ සසර ගමනේ යන සත්වයාගේ ජීවිතයට හැබෑ සැනසිල්ලක් ලැබෙන්නේ පින්වතුනේ බුදුරජුන්ගේ ධර්මයෙන්. කලාතුරකින් ලෝකයට පහළ වෙලා සත්‍ය දේශනා කරන ඒ බුදුරජාණන් වහන්සේගේ ධර්මය, යම් කෙනෙක් තවත් කෙනෙකුට අහන්න සළස්වනවා නම් ඒ කෙනා සැනසිලි වෙනවා. ඒ නිසා අද ඒ පින්වතුන්ලා හැමදෙනාම බොහෝම සතුටු වෙන්න, තමන් ඒකරාශී වෙලා මේ කරන පින්කම අමෘත දානයක්. බොහෝ දෙනෙකුගේ ජීවිතයේ සැප උපදින්න සැනසිල්ල පිණිස, සැපය පිණිස හේතුවෙන උතුම් ධර්මය අද මේ විදියට ඔබ හමුවන්න සළස්වන්නෙ. ඒ අමා නිවන් දුටු රහත් තෙරණිවරු මේ ධර්ම දේශනා මාලාවේදී අපි දන්නවා ගෞතම ශාසනය තුළ අමා නිවනේ සැනසෙච්චි රහත් තෙරණිවරු ගැනයි අපි ඉගෙන ගන්නෙ. අද අපි කතා කරන්නෙ සුජාතා කියන රහත් තෙරණියගේ චරිතාපදානයේ, ඒ උත්තමාවිය වදාළ ගාථා. සුජාතා කියලා කියන්නේත් සංසාර ගමනේ නොයෙක් ජාති වල බොහෝ පින් පුරපු කෙනෙක්. ඒ පින් පුරපු නිසානේ තමන්ගේ ජීවිතේ මේ බුද්ධ ශාසනයේදී සැනසුනේ. සසරේ ගොඩාක් පින් පිරුවා. පින් පුරාගෙන පැමිණිලා අපගේ ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළ වෙන කාලයේ ඈ උපන්නේ දඹදිව බොහෝම ධනවත් පවුලක. තරුණ වයසට එළඹෙද්දි සාමාන්‍ය ස්ත්‍රීන් සෙයින්ම සුදුසු කුලයකින් ඇයට විවාහයක් කරලා දුන්නා. ඒ විවාහය හරිම සැනසිල්ලේ ගතවෙච්චි එකක්. ඒ විවාහ ජීවිතය නිසා ඇයට කිසි කරදරයක් තිබ්බෙ නෑ. ඇයට සුදුසු හොඳ ස්වාමිපුරුෂයෙක් ලැබුනා. ඉතින් තරුණ වයසේදීම විවාහ ජීවිතයට පත්වෙලා සේවක සේවිකාවො පිරිවරාගෙන හොඳ සැපවත් ජීවිතයක් ඇය ගත කරනවා. ඔහොම ගත කරද්දි එක කාලයක් පැමිණුනා නැකැත් සමයක්. මේ නැකැත් සමය කියලා කියන්නෙ පින්වතුනේ දැන් මිනිස්සුන්ගේ ජීවිත වල මිනිස්සු අනුගමනය කරන, එහෙම නැත්නම් මිනිස්සු අදහන නොයෙක් ආගමික වටපිටා තියෙනවානෙ. නොයෙක් දර්ශන තියෙනවා. ඉන්දියාව ගත්තොත් එහෙම දර්ශන ගොඩාක් තියෙන තැනක්. ඒක

අදත් එහෙමයි, ඒක අතීතෙත් එහෙමයි. එතකොට තමන් අනුගමනය කරපු දර්ශනයට අනුව නොයෙක් විශේෂ කාල යෙදෙනවානෙ. අන්න එහෙම කාලයක්. ඒ නැකැත් කාලයට මේ ගොල්ලො කරනවා කියන්නෙ තමන්ගේ ඥාතීන් හිතමිත්‍රාදීන් ඔක්කොමත් එක්ක සන්තෝෂ වෙන එක, සතුටු වෙන එක. ඉතින් ඔන්න එහෙම සතුටු වීම පිණිස නැකැත් දවසක් යෙදුනා. තමන්ගේ ස්වාමිපුරුෂයාත් එක්ක ඇය උයනේ සතුටුවීම පිණිස ටිකක් දුරබැහැර ගෙවාගෙන ලස්සන රමණීය උයනකට ගියා. ඔය උයනට ගිහිල්ලා මේ උයනේ තමන්ගේ ස්වාමිපුරුෂයාත් එක්ක අනිකුත් ඥාතීන් එක්ක ඇය සන්තෝෂ වුනා. මේ සතුටු වෙමින් ඉඳිද්දි දැන් කාලය ගතවෙලා ගියා. ස්වාමිපුරුෂයා වෙනුවෙන් ප්‍රණීත මොනවහරි හදාගෙන එන්න ඇය ඒ උයනේ ඉඳලා ආපහු තමන්ගේ නිවසට පිටත් වුනා. දැන් මේ නිවසට එන්නෙ සේවිකාවොත් එක්ක. සේවිකාවොත් එක්ක නිවස පැත්තට එනකොට ඇයට එකපාර දැකගන්න ලැබුනා සාකේත නුවර අඤ්ජන වනයේ පිහිටි බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න විහාරය. ඒ කාලෙ පින්වතුනේ දැන් ඔබ අසා තියෙනවානෙ වේළුවනාරාම පූජාව කලේ බිම්බිසාර මහරජු. සැවැත්නුවර ජේතවනාරාම පූජාව කලේ අනාථපිණ්ඩික මහසිටුතුමා. එතකොට මේ ආරාම පූජාවන් සිද්ධ කරනකොට බොහෝම සැදැහැ සිතින්නෙ ඕක කරන්නෙ. පුදුම ලස්සන රමණීය ආකාරයට ආරාම හදනවා. දුටු දුටුවන්ගේ හිත් පහන් වෙන ආකාරයට ආරාම හදනවා. ඒ ආරාමය දැක්ක ගමන් ප්‍රිය උපදින විදියට. අනිත් එක එහෙ වැඩ ඉන්නෙ මහාසඟරුවන, භාග්‍යවතුන් වහන්සේ. ඒ ශාස්තෘන් වහන්සේ කෙරෙහි පහන් සිත් ඇති කෙනෙක් බුදුරජාණන් වහන්සේට කරන පූජාව මනාකොට සකස් කරලා ලස්සනට පිළිවෙලකට සකස් කරලා තමයි පූජා කරන්නෙ. එතකොට දකින කෙනෙකුගේ හිත මේකට ඇදිලා යනවා. දැන් අපි ගත්තොත් එහෙම අපේ මහමෙව්නා භාවනා අසපුව, අපේ අසපුව පුණ්‍ය භූමියේ ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේගේ ආශිර්වාදය මගපෙන්වීම නිසා අපි බොහොම පිළිවෙලකට පවත්වගෙන යනවා. එතකොට ඒ පිළිවෙලකට ලස්සනට පවත්වාගෙන යද්දි වත්පිළිවෙත් හොඳට කරලා දකින කෙනෙකුට සිත පහන් වෙනවා. ආපු ගමන් සැනසිල්ලක්, සුවයක්, පැහැදීමක් ඇතිවෙනවා. ඒ සැනසිල්ල සුවය පැහැදීම ඇතිවුනාම ඒ කෙනා එතන රැඳෙන්න ආස කරනවා. පින්වතුනි රැඳෙන්න ආස කරන්නෙ නරක තැනක නොවෙයිනෙ. එතන ලස්සනට පිළිවෙලකට තිබුනහම එතෙන්ට කෙනෙක් ඇවිල්ලා රැඳෙන්න ආස කලාට කමක් නෑ, හේතුව මොකෝ එතන ඇහෙන්නේ බුදුබණයි. සාකේත

නුවර අඤ්ජන වනයේ මේ මිගදායට සුජාතාවට යන්න හිතුනා. සුජාතා සේවිකාවො පිරිවරාගෙන අඤ්ජන වනමිගදායට යනවා. අපි මේ ලස්සන රමණීය විහාරය බලලා යමුකො කියලා. ඉතින් සේවිකාවොත් එක්ක අඤ්ජන වනමිගදාය ඇතුලට යන වෙලාවේ බුදුරජාණන් වහන්සේ පිරිසකට දහම් දෙසනවා. සුජාතාවත් තමන්ගේ සේවිකාවොත් එක්ක එතනම වාඩිවුනා. වාඩිවෙලා අර භාග්‍යවතුන් වහන්සේ දේශනා කරන්නෙ මොකක්ද කියන එක අහගන්න කණ යොමු කලා. මොහොත්තං පිචෙ විඤ්ඤූ පණ්ඩිතං පයුරුපාසති - නුවණැති කෙනෙක් මොහොතක් වෙන්න පුලුවන්, ඥාණවන්තයෙකුගේ දහම් පදය අහන්නෙ. කිප්පං ධම්මං විජානාති ජිව්හා සූපරසො යතා - ඒ නුවණැති තැනැත්තා බුදුරජුන්ගේ ධර්මය වහා අල්ලනවා. හරියට හොද්දක රසය සැණෙකින් හඳුනාගන්නා දිවක් බඳුය. මේ සුජාතා කියන්නේ දිවක් වගේ කෙනෙක්. අර බණ පදය අහනකොට ඇහු සැනින් ධර්මය ඇල්ලුවා. හරිම ආශ්චර්‍යයයි පින්වතුනි, සංසාරයේ පින් කරගෙන තිබුනු ජීවිත පරිවර්තනය වෙච්චි හැටි. දැන් මේ නැකැත් දවසේ බොහොම සන්තෝෂෙන් ගිහිල්ලා උයන් කෙළියේ සතුටු වෙලා හිනහ වෙලා, නටලා එන කෙනා. ආභරණ පළඳාගෙන සැරසිලා හිටපු කෙනා. ඥාති සමූහයා අතරට යනකොට නොයෙක් නොයෙක් මෝස්තර වලින් සැරසිලා ගියපු කෙනා, ඒ මෝස්තර සහිතව ඈ මෙතන වාඩිවුනේ. ගිහි වස්ත්‍ර පිටින්ම සුජාතාව අර දහම් පදය අහගෙන අර්හත්වය පසක් කලා. අනුපිළිවෙලින් මේ සිත දියුණු වුනා සියලු කෙලෙස් නැසෙන තෙක්. ගිහි වස්ත්‍ර පිටින්ම අර්හත්වය පසක් කලා. සුජාතාව ගිහි වස්ත්‍ර පිටින්ම අර්හත්වයට පත්වෙලා එහි වාඩිවෙලා ඉන්නකොට ඇගේ ස්වාමිපුරුෂයා ඇයව සොයාගෙන එතෙන්ට පැමිණෙනවා. ඒ පැමිණිලා සුජාතාවට කියනවා දැන් අපි නිවසට යමු. අන්න ඒ වෙලාවේ සුජාතා තමන්ගේ ස්වාමිපුරුෂයාට ධර්මය කියනවා. හැබැයි මේ ධර්මය කියන්නෙ ධර්මය අවබෝධ කරපු ධර්මය තුළට පැමිණි සසර ගමන අවසන් කරපු අර්හත්වයට පත්වෙච්චි කෙනෙක්. විශාරදව බණ කියනකොට ඒ ස්වාමියාට වෙන මොකුත් කියාගන්න බැරිව ගියා. ඔහුට සිද්ධ වුනා ඔහු තේරුම් ගත්තා තමන්ගේ බිරිඳ යළිත් වතාවක් නිවසට නම් යන්නෑ, තමන්ගේ බිරිඳ යළිත් වතාවක් ගෘහ ජීවිතයට වැටෙන් නෑ. ඇයට පැවිද්දට අවසර දුන්නා. එතකොට සුජාතාව අර්හත්වයට පත්වෙලා ඉද්දීම බුද්ධ ශාසනයේ පැවිදි බව ලැබුවා. හරියට අර ඛේමා අර්හත් තෙරණියගේ චරිතාපදානය අපි ඉගෙන ගත්තෙ, අන්න ඒ වගේ. අර්හත්වයට පත්වුනාට පස්සෙ තමයි සිවුරු පෙරෙව්වෙ. අර්හත්වයට පත්වුනාම ඒ උත්තමාවිය උතුම්

පැවිදි භාවය භික්ෂුණී සංඝයා අතරට එකතු වුනා. ඒ පිළිබඳව ඈය ථෙරී ගාථා වල මේ විදියට කියනවා. මං එදා ලස්සනට හැඳපැළඳගෙන හිටියේ. මල් මාලාවන්ගෙන් කය සරසවාගෙන හිටියේ. සඳුන් කල්ක තවරාගෙන සියලු ආභරණ වලින් සැරසිලා දාසියො පිරිවරාගෙනයි මං හිටියෙ. ගොඩාක් කෑම බීම ජාතිත් කැවිලි පෙවිල් වර්ගත් අරගෙන මං උයන් කෙළියට ගියෙ. උයනට ගිහින් කාලා බීලා ප්‍රීති වෙලා ආපහු ගෙදරට එනකොට සාකේත නුවර අඤ්ජන වනයේ විහාරය බලන්නටත් මං ගියා. එතන බුදු සමිඳාණන් වැඩ හිටියේ තුන් ලොකේම එළිය කරන පහනක් වගේ. බලන්න භාග්‍යවතුන් වහන්සේ දැකපු හැටි ඈය. භාග්‍යවතුන් වහන්සේ වැඩ හිටියේ හරියට තුන්ලෝකෙම එළිය කරන පහනක් වගේ. මං උන්වහන්සේ ළඟට ගිහින් වන්දනා කලා, සදහම් ඇස් ඇති මුණිඳුන් මං ගැන අනුකම්පාවෙන් මට දහම් දෙසුවා. උන්වහන්සේ මහා ඍෂිවරයෙක්. ඒ බුදු සමිඳුන්ගේ ධර්මය අහලා මං චතුරාර්ය සත්‍යය අවබෝධ කරගත්තා. මට ඒ ආසනයේදීම මේ විරාගී දහම වන අමා නිවන සාක්ෂාත් කරන්න ලැබුනා. මේ විදියට සද්ධර්මය දැනගෙනමයි මං බුද්ධ ශාසනයේ මහණ වුනේ. මාත් ත්‍රිවිද්‍යාව ලබාගත්තා. බුදුසසුන කියන්නෙ හිස් දෙයක් නම් නොවේ. එහෙම තමයි ඒ රහත් තෙරණින් වහන්සේ ථෙරී ගාථාව වදාළේ. බලන්න පින්වතුනි මේ ධර්මයේ තියෙන අසිරිය. නුවණැත්තෙක්ගේ ජීවිතයට ඒ ධර්මය කැරකිලා යන විදිය. නුවණ තියෙන පින තියෙන කෙනෙකුගේ ජීවිතයට සියලු සුවය සදමින් ධර්මය ඔහුගේ ජීවිතය ඇතුලට කැරකිලා යනවා. එතකොට ඔහු ධර්මයම වැළඳගන්නවා. අනිත් හැමදේම බැහැර කරනවා. නුවණැත්තෙක් ධර්මයම වැළඳගෙන අනිත් හැමදේම බැහැර කරනකොට මෝඩයෙකුට ඒක තේරුම් ගන්න බෑ. එතකොට මෝඩයො කතන්දර හදනවා. මෝඩයන්ගේ තියෙන මෝඩයො අවිය කරගන්න දේනෙ. මෝඩයාගේ අවිය අපහාසය. මෝඩයාගේ අවිය නින්දා කිරීම. මෝඩයාගේ අවිය එක එක කතා හැදිල්ල. ඒක ඉතින් එකල මෝඩයෝත් එහෙමයි, මෙකල මෝඩයොත් එහෙමයි. අනාගතයේත් මෝඩයන්ගේ හැටි එහෙමයි. ඉතින් බුදුරජාණන් වහන්සේ ළඟ නුවණැත්තෝ සම්බුදු සසුනේ පිළිසරණ ලබද්දි, වේගයෙන් නුවණැත්තො බුද්ධ ශාසනයට පහදිද්දි ඒ කාලයේ ඔය වගේ මෝඩ අඥාණ පිරිස හදපු කතාවක් තමයි බුදුරජාණන් වහන්සේ මායාකාරයෙක් කියලා. බුදුරජාණන් වහන්සේ මායාකාරයෙක්ය, බුදුරජාණන් වහන්සේ මැජික්කාරයෙක්ය, ඒ මායාවෙන් මැජික් එකෙන් මේ මනුස්සයාව ආකර්ෂණය කරලා කරකවලා ගන්නවා. ඇයි මෝඩ තැනැත්තාට හිතෙන්නෙ ඒක එහෙම. නුවණැති කෙනෙක් ධර්මයට

ආකර්ෂණය වෙනකොට නුවණ නැති තැනැත්තාට හිතාගන්න බෑ මේකෙ ආකර්ෂණය වෙන්න තරම් මොකක්ද තියන්නෙ. ඒ කෙනාට හිතාගන්න බෑ, ඒ කෙනා ඒකට කතන්දරයක් හැදුවා, බුදුරජාණන් වහන්සේ ආවට්ඨනී මායා - ආවට්ඨනී මායා කියන්නෙ සුළියකට කරකවලා ගන්නවා වගේ මේ මනුස්සයාව කරකවලා ගන්න මැජික් එකක් දන්නවා. මේ මැජික් එක නිසා මනුස්සයෝ කරකැවිලා එනවා. ඔහොම කතාවක් හැදුවා. තමන් දන්න කියන ඇයන්ටත් ඒ කතන්දරයම කිව්වා. අම්මෝ බුදුරජාණන් වහන්සේ ළඟට නම් යන්න එපා, උන්වහන්සේ ආවට්ටනී මායාව දන්නවා, ගියොත් එහෙම ගැලවිල්ලක් නෑ උඹලා කැරකිලා යයි. එහෙම කියනවා. ඉතින් එව්වා අහපු ඇතැමු අඥාන මිනිස්සුත් බුදුරජාණන් වහන්සේ සමීපයට, බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න විහාරයටවත් යන්නෑ, ඇයි කැරකිලා යයි කියලා බයයි. මෝඩයන්ගේ කතන්දර අහලා. ඉතින් කීදෙනෙක් ඔය මෝඩයන්ගේ කතන්දර අහලා එකල විනාශ වෙන්න ඇත්ද, බුදු කෙනෙක් වැඩ ඉඳලාත් රහතුන් වැඩ ඉඳලාත් විහාරයකට අඩියක් තියන්න නැතිව ඇති. ඇයි අඥාණයන්ගේ කතන්දර අහනවානෙ. ඒ කතන්දරය අහලා එව්වාට වසඟ වෙලා ඔහේ මරණයට පත්වෙනකල් ජීවිතය ගත කරන්න ඇති. අන්න ඒ නිසා පින්වතුනේ මේ කරුණු කාරණා අපි හොඳට පහදාගත යුතු දේවල්, මොකද වර්තමානයේ වුනත් අඥාන තැනැත්තො මෝඩ තැනැත්තො කරන්නෙ නින්දාව අපහාසය කතන්දර හදන එක. යම් කෙනෙක් නුවණින් සළකන්නේ නැතිව කතන්දර වලට අහුවුනොත් වෙන්නෙ තමන්ගේ යහපත වැනසී යනවා. හැබැයි ඉතින් නුවණැති තැනැත්තො නුවණ තියෙන අය බුදු කෙනෙකුගේ දහම් පදය ඉස්සරහා කරකැවිලා ගියපු හැටි බලපුවාම මෝඩ තැනැත්තෙක් එහෙම කතාවක් හදන එක අරුමයකුත් නෙවෙයි. මොකද දැන් බලන්න සුජාතාව උයන් කෙළියට ගිහිල්ලා ඇය නිවසට එමින් ඉද්දි පොඩ්ඩකට ගොඩ උනා විහාරයට. ඒ ගොඩවෙච්චි පොඩ්ඩට ඇය යළි ගෙදර යන්නේ නැති කෙනෙක් බවට පත්වුනා. පැවිදි වුනා. බුදුරජාණන් වහන්සේ ළඟ බණ පදයක් අහන්නම් කියලා වාඩි වුනා. වාඩිවෙච්චි කෙනා යළි නැගිට්ටේ බුද්ධ ශාසනයේ පැවිද්දෙක් විදියට. ඉතින් මේක ආවට්ඨනී මායාවක් වගේ තමයි, ඉතින් ඒ ගැන හරී ලස්සන ධර්මයක් අන්තර්ගත වෙනවා පින්වතුනේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය තුළ, මජ්ඣිම නිකායේ උපාලි සූත්‍රය. උපාලි කියන්නෙ නාලන්දාවේ හිටපු කෙනෙක්. මේ උපාලි බොහොම ධනවත් ගෘහපතියෙක්. හොඳට ධනසම්පත් තිබ්බ කෙනෙක්. උපාලි නිගණ්ඨ ශ්‍රාවකයෙක්. ඔබ අසා තියෙනවානෙ ඒ කාලෙ හිටියා කියලා දඹදිව ෂඩ්ශාස්තෘවරු. පූර්ණ කස්සප,

පකුධකච්චායන, සංජයබෙල්ලට්ඨීපුත්ත, නිගණ්ඨනාතපුත්ත, මක්ඛලීඝෝසාල, අජිත කේසකම්බල කියලා හයදෙනෙක් හිටියානෙ. ඔන්න ඔය හයේ කල්ලියේ කෙනෙක් තමයි නිගණ්ඨනාතපුත්ත කියලා කියන්නෙ. නිගණ්ඨනාතපුත්තගේ ශ්‍රාවකයෙක් තමයි උපාලි. උපාලි දවසක් නිගණ්ඨනාතපුත්තට කියනවා මෙන්න මෙහෙම කතාවක්. ස්වාමීනී මට හිතුනා ශ්‍රමණ ගෞතමයන් එක්ක වාදයක් කරන්න. මං මේ වාදය කරලා බලවත් පුරුෂයෙක් දිග ලොම් තියෙන එළුවෙක්ව ඒ ලොම්වලින්ම අල්ලලා පෙරනවා වගේ මං ශ්‍රමණ භවත් ගෞතමයන්ව වාදයෙන් පෙරලලා දානවා. හරියට හැට හැවිරිදි මහා හස්තිරාජයෙක් මහා පොකුණකට බැහැලා තමන්ගේ ශරීරයෙන් පොකුණ කළඹනවා වගේ මං ශ්‍රමණ භවත් ගෞතමයන්ව වාදයෙන් කළඹවලා දානවා. මට හිතුනා මෙහෙම ශ්‍රමණ ගෞතමයන් එක්ක වාදයක් කරන්න. එතකොට නිගණ්ඨනාතපුත්ත කියනවා හරියට හරි උපාලි, පලයං. උඹ ගිහිල්ලා ශ්‍රමණ භවත් ගෞතමයන්ට වාදයක් ගොඩනගපං. ශ්‍රමණ ගෞතමයන්ට වාදයක් ගොඩ නගලා, ශ්‍රමණ ගෞතමයන්ව හරියට දිග ලොම් තියෙන එළුවෙක් ඒ ලොම් වලින් අල්ලලා පෙරලනවා වගේ පෙරලලා දාපං. ශ්‍රමණ ගෞතමයන්ව කළඹවලා දාපං හස්ති රාජයෙක් පොකුණකට බැහැලා ඒ පොකුණ කළඹවනවා වගේ කළඹවපං කිව්වා. එතකොට බලන්න මේ දුෂ්ට හිත. කේන්තියෙන් ඉඳලා තියෙන්නෙ. නිගණ්ඨයා කිව්වා වාදය ගොඩනගාපං කිව්වා, උපාලි ඉතින් ශ්‍රමණ ගෞතමයන් වගේ කෙනෙක් එක්ක වාදයක් කරනවා නම් එක්කො ඉතින් මං කරන්න ඕන, එහෙම නැත්නම් නුඹ කරන්න ඕන, එහෙම නැත්නම් ඉතින් මගේ මේ දක්ෂම ගෝලයා වන දීඝතපස්සි නිගණ්ඨයා ඔය වාදය කරන්න ඕන. ඉතින් සාමාන්‍ය කෙනෙකුට ඕක කරන්න බෑ කිව්වා. එහෙම කිව්වෙ ඇයි, උපාලිට ලකුණක් දෙන්න. උපාලිට එතකොට හරි සතුටුයිනෙ, එහෙනම් මාත් කෙනෙක්ය කියලා. ඉතින් උපාලිට ඔහොම ලකුණකුත් දුන්නා. එහෙම දෙනකොට දීඝතපස්සී කියන නිගණ්ඨයා, දීඝතපස්සී නිගණ්ඨයා කියලා කියන්නෙ නිගණ්ඨනාතපුත්තට හිටපු දක්ෂ ගෝලයෙක්. දීඝතපස්සී නිගණ්ඨයා මූණ අකුලගත්තා. අකුලගෙන නිගණ්ඨනාතපුත්තට කියනවා ස්වාමීනී, නිගණ්ඨනාතපුත්තයන් වහන්ස මං නම් ඔය වැඩේට කැමැති නෑ. උපාලි ගෘහපතියා ඔය ශ්‍රමණ ගෞතමයන් වහන්සේත් එක්ක වාද කරන්න යනවාට මගේ හිතේ නම් සතුටක් නෑ. නිගණ්ඨනාතපුත්ත අහනවා ඇයි දීඝතපස්සි මොකෝ උඹට සතුටක් නැත්තෙ? නෑ ස්වාමීනී, ඔය ශ්‍රමණ

ගෞතමයො කියලා කියන්නෙ මායාවී කෙනෙක්. මායාකාරයෙක්. හරී දක්ෂ මායාවක් උන්වහන්සේ දන්නවා, ආවට්ටනී කියලා. ඔය ආවට්ටනී මායාවෙන් අන්‍ය තීර්ථක ශ්‍රාවකයන්ව කරකවලා ගන්න උන්වහන්සේට පුලුවන්. වෙන වෙන ආගම්, වෙන වෙන දර්ශන අදහන අයව උන්වහන්සේ මායාවෙන් කරකවලා ගන්නවා. උන්වහන්සේ ළඟ වාඩිවුනොත් වාඩිවුනාම තමයි කිව්වා. එතකොට මේ නිගණ්ඨනාතපුත්ත කොච්චර අහංකාර ද කියන්නෙ නිගණ්ඨනාතපුත්ත කියනවා අනේ දීඝතපස්සි උපාලි ගෘහපතියා ශ්‍රමණ ගෞතමයන්ගේ ගෝලයෙක් වෙනවා කියන එක, ශ්‍රමණ ගෞතමයන්ගේ ශ්‍රාවකයෙක් වෙනවා කියන එක ඒක සිද්ධ වෙන එකක් නම් නෙවෙයි කිව්වා. සිද්ධ වුනොත් මෙහෙම වෙයි. ශ්‍රමණ ගෞතමයන් උපාලිගේ ශ්‍රාවකයෙක් වෙනවා කියන එක නම් වෙයි. අපේ උපාලි කවද්ද වෙන කෙනෙක්ගේ ශ්‍රාවකයෙක් වෙන්නේ කියලා තවත් ටිකක් ලකුණු දුන්නා. ලකුණු දීලා උපාලිට කියනවා උපාලි උඹ පලයන්. උඹ දක්ෂයා. ශ්‍රමණ ගෞතමයන්ට වාදය කරාපං, වාදය කරලා ශ්‍රමණ ගෞතමයන්ව පෙරලා දමාපං, කළඹවලා දමාපං. දැන් ඉතින් තමන්ගේ ශාස්තෘන් වහන්සේනෙ නිගණ්ඨනාතපුත්ත. නිගණ්ඨනාතපුත්ත මෙහෙම කිව්වාම උපාලිට සන්තෝෂෙ. උපාලි ඒ ලකුණු ටිකත් අරගෙන තමයි භාග්‍යවතුන් වහන්සේ ළඟට යන්නෙ. හැබැයි මේ උපාලි කියලා කියන්නෙ පින්වතුනේ නුවණැත්තෙක්. නුවණ තිබ්බ කෙනෙක්. නුවණ තිබ්බ කෙනෙක් වුනත් නුවණැත්තෙක්ගේ දහම් පදයක් අහන්න නොලැබුනොත් එහෙම ඒ කෙනාගේ නුවණ අවදි වෙන්නෙ නෑ, ඥාණය අභ්‍යන්තරයේ තියෙන කෙනෙකුට වුනත් ඥාණවන්තයෙකුගේ බණ පද අහන්න ලැබුන් නැත්නම්, ඥාණවන්තයෙකුගේ දහම අහන්න ලැබුන් නැත්නම් ඥාණය අවදි වෙන් නෑ. ඒකනෙ බුදුරජාණන් වහන්සේ සද්ධර්මය අවබෝධ කලාට පස්සෙ භාග්‍යවතුන් වහන්සේ සම්බුදු බවට පත්වෙලා මුල් කාලයේ බුදුරජාණන් වහන්සේට - අජපාල නුගරුක් සෙවණේදී මේ සිද්ධිය වුනේ- ගයාවේ අජපාල නුගරුක් සෙවණේ බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්නකොට බුදුරජාණන් වහන්සේට සිතුවිල්ලක් උපන්නා, මං මේ අවබෝධ කරගත්තු ධර්මය හරී ගම්භීර එකක්. මේ ධර්මය සියුම් නුවණකින් දකින්න පුලුවන් එකක්, තර්ක කරලා අල්ලන්න බැරි එකක්. මෙබඳු ධර්මයක් සාමාන්‍ය මිනිස්සුන්ට කියාගෙන ගියොත් මට වෙහෙසක් වෙයි. ඒ නිසා ධර්මය කියන්න ඕන නෑ කියලා හිතුනා. එතකොට සහම්පතී කියන බ්‍රහ්මයා ඕක දැකලා බුදුරජාණන් වහන්සේ ළඟට පැමිණියා. පැමිණිලා භාග්‍යවතුන් වහන්සේට

දේශනා කලානේ, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, ධර්ම දේශනා කරන එක නම් නවත්වන්න එපා. ස්වාමීනී, සුගතයන් වහන්ස, දහම් කතාව නම් නතර කරන්න එපා. ස්වාමීනී ධර්මය දේශනා කරන සේක්වා. ධර්මය දේශනා නොකලොත් ස්වාමීනී නුවණ තියෙන අයත් පිරිහී යාවි. අන්න එහෙම කිව්වානෙ. නුවණ තියෙන කෙනාත් පිරිහිලා යනවා දහම් පදය අහන්න බැරිව ගියොත් නුවණ තියෙන අය හරියට පිපෙන්න බලාගෙන ඉන්න නෙළුම් වගේ. පිපීම පිණිස සුදුසු තත්වයේ තියෙන මෝරපු නෙළුම් වගේ තමයි නුවණ තියෙන අය. නෙළුම මෝරලා පිපෙන්න සුදුසු තත්වයට ආවත් පින්වතුනේ ඉර පෑව්වෙ නැත්නම් පිපෙන්නේ නැත. අන්න ඒ වගේ තේරුම් ගත යුත්තේ, නුවණැත්තෙක් නුවණැති දහමක් ඇහුවේ නැත්නම් ඒ කෙනාගේ නුවණ අවදිවෙන්නේ නැත. එතකොට නුවණැත්තෙක් වෙලත් නිගණ්ඨනාතපුත්ත කියන අඥාණ තැනැත්තා ළඟනෙ උපාලි හිටියේ. උපාලිගේ නුවණ අවදිවුන් නෑ. දැන් උපාලි යනවා සුදුසු තැනට. උපාලි යන්නෙ හැබැයි වාද කරන්න. භාග්‍යවතුන් වහන්සේ වැඩ හිටියේ පාවාරිකා අඹ වනයේ, භාග්‍යවතුන් වහන්සේ ළඟට ගිහිල්ලා උපාලි කියනවා වන්දනා කරලා වාඩිවෙලා උපාලි කියනවා, ශ්‍රමණ ගෞතමයන් වහන්ස, ශ්‍රමණ ගෞතමයෝ පවසන්නේ මෙන්න මෙහෙම දහමක්. කාය කර්ම, වචීකර්ම, මනෝකර්ම කියන තුනෙන් වඩාත් ප්‍රබල දේ විදියට ඔබවහන්සේ පෙන්වන්නෙ මනෝ කර්මය. ඔබවහන්සේගේ බණ පදවල ඔබ වහන්සේ පෙන්වෙන්නේ කාය කර්ම, වචීකර්ම, මනෝකර්ම කියන තුනෙන් බරපතලම එක මනෝකර්මය විදියට, එහෙම නේද කියලා ඇහැව්වා. බුදුරජාණන් වහන්සේ ඒක අනුදැන වදාළා, ඒක එහෙම තමයි කියලා. හැබැයි අපේ නිගණ්ඨනාතපුත්ත කියන අපේ ශ්‍රමණයන් වහන්සේ නම් එහෙම නෙවෙයි කිව්වා කියන්නෙ, කාය දණ්ඩ, වචී දණ්ඩ, මනෝ දණ්ඩ කියලා තුනක් අපේ නිගණ්ඨනාතපුත්ත කියන උතුම් ශ්‍රමණයන් වහන්සේ පෙන්වෙන්වා. දැන් කලින් කියන්නෙ මේ පැහැදීමෙන්නෙ. ඒ උත්තමයා පෙන්වෙන්නේ කායදණ්ඩ, වචීදණ්ඩ, මනෝදණ්ඩ - ඒ දණ්ඩ කියලා කිව්වෙ කර්ම කියන අදහසම තමයි, ඒකට දාගත්ත වෙන වචනයක්. මෙහෙම තුනක් පෙන්වනවා. මේ තුනෙන් වඩාත් බරපතල විදියට උන්වහන්සේ නම් පනවන්නෙ ඔය ලාමක මනෝදණ්ඩ නෙවෙයි. උන්වහන්සේ පනවන්නෙ වඩාත්ම බරපතල දේ විදියට කායදණ්ඩයමයි. ඉතින් ඒ අනුව කල්පනා කරලා බලද්දි මටනම් තේරෙන දේ තමයි, මේ ලාමක මනෝදණ්ඩට වඩා කායදණ්ඩය තමයි ප්‍රබල. නිගණ්ඨනාතපුත්තගේ වචනය තමයි කිව්වා හරි. මේ අදෘශ්‍ය වූ ජේන්නේ වත්

නැති ලාමක මනෝදණ්ඩ මොකක්ද කියලා ඇහුවා. එතකොට බුදුරජාණන් වහන්සේ උපාලිට කියනවා, උපාලි මෙහෙම කරමු, ඔබ සත්‍යය තුළ පිහිටලා නම් කතා කරන්නෙ, සත්‍යයෙන් සත්‍යය ඉස්මතු කරගන්නවා නම් ඔබට සත්‍යය නම් දැනගන්න ඕන, ඇත්ත දැනගැනීමේ අවංක උවමනාවක් ඔබට තියෙනවා නම් මෙතැන් පටන් අපගේ කතාව වේවා කිව්වා. ඒක නිකං තමුන්ට දිනන්න විතරක් උවමනාවක් නැතිව. තමන් කොහොමහරි ජයගන්න ඕන කියන උවමනාවෙන් තොරයි නම්, ඇත්ත දැනගැනීමේ උවමනාවක් තියෙනවා නම්, සත්‍යය පහදලා දෙනකොට සත්‍යයට හිස නමනවා නම් අපේ කතාව වේවා කිව්වා. එහෙම තමයි නුවණැත්තන්ගේ කතා. වාදය කියන එක හරියට තියෙනවානෙ මේ ලෝකෙ. වාදය කියන එකේ පසුබිම පින්වතුනි ඕක නෙවෙයි. වාදය කියන එකේ කරන්නෙ එකෙක් පරද්දලා තව එකෙක් දිනන අදහසින්. වාද කරන ඇයො උත්සාහ කරන්නෙ මම හරි, මම හරි කියන එක කියාගන්නයි, ඒක මොන ක්‍රමයකින් හරි පටලවලා මම තමයි හරි කියන එකයි පෙන්වන්න උත්සාහ කරන්නෙ. එහෙම නැතිව ඇත්ත නැත්ත තෝරගැනීමේ උවමනාවක් වාද කරන අයට නෑ. බුදුරජාණන් වහන්සේ වාදයට කැමැති වුන් නෑ. භාග්‍යවතුන් වහන්සේ උපාලිට කියනවා උපාලි ඔහේ සත්‍යය පිළිගන්නවා නම්, සත්‍යය මත පිහිටලා නම් මේ කතා බහ යන්නෙ, මේ කතාව අපි කරමු, නැත්නම් ඕන නෑ කිව්වා. එතකොට උපාලි කියනවා, හරි ස්වාමීනී, මම සත්‍යය මත පිහිටනවා. ඒ අපගේ කතාව සත්‍යය මත පිහිටා වේවා. ඔන්න එතකොට භාග්‍යවතුන් වහන්සේ මේ ලස්සන දහම් කතාව, මේක හරීම සුන්දරයි පින්වතුනේ බුදු කෙනෙක්ගේ ධර්මය, භාග්‍යවතුන් වහන්සේ ලෝකයට දේශනා කරන ධර්මය කොයි තරම් විශ්මයජනක ද කියලා මේ දේශනාවෙන් අපිට තේරුම් ගන්න පුලුවන්. බුදුරජාණන් වහන්සේ වදාළා, ගෘහපතිය මෙහෙම හිතමු. අපි නිගණ්ඨයෝම මුල් කරගෙන මේක කතා කරමු. ඔන්න නිගණ්ඨ ශ්‍රාවකයෙක් ඉන්නවා ඔහු රෝගියෙක්. ඔහු බොහෝම දුකට පත්වෙලා, ගිලන් වෙලා මරණාසන්න මොහොතේ වාසය කරන්නෙ. හැබැයි ඔහු සීතල දිය ප්‍රතික්ෂේප කරලා උණුදිය විතරක් වළඳන කෙනෙක්. නිගණ්ඨයන්ගේ තිබ්බානෙ එහෙම ව්‍රත. මොකද නිගණ්ඨයො කල්පනා කලා සීතල දිය අනුභව කලොත් එහෙම, සීතල දිය පානය කලොත් එහෙම ඒවගේ මේ චූටි චූටි සත්තු ඉන්නවා, උන්ව පෙලෙනවා, උන් මැරෙනවා. ඒ නිසා සීතල දිය නිගණ්ඨයෙක් බොන්න හොඳ නෑ කියලා ව්‍රතයක් තිබුනා. අන්න ඒ ව්‍රතය සමාදන් වෙලා හිටපු නිගණ්ඨයෙක් තමයි මේ ලෙඩවෙලා ඉන්නෙ. එතකොට එයා ජීවිතේටම සීතල

වතුර පානය කරන්නෙ නෑ, මං සීතල වතුර බොන්නේ නැත කියලා එයා සීලයක් සමාදන් වෙලා ඉද්දි ලෙඩ වුනා. හැබැයි ලෙඩේ හොඳ වෙන්න සීතල වතුර බොන්න ඕන. සීතල වතුර බොන්න කොච්චර කැමැත්ත තිබුනත් සමාදන් වෙච්ච ව්‍රතය නිසා සීතල වතුර පානය නොකර ඉඳලා ඔහු කළුරිය කලා. ඔහොම සිද්ධියක් වුනොත් එහෙම උපාලි ඔහුගේ උපත නිගණ්ඨනාතපුත්ත කොහොමද පනවන්නෙ? එබඳු ශ්‍රාවකයා මලොත් එහෙම කොහෙ උපදියිද? කිව්වා ස්වාමීනී, මනෝසත්ත කියලා දෙව්ලොවක් තියෙනවා. ඔන්න ඔය මනෝසත්ත කියන දෙව්ලොවේ උපදිනවා කියලා තමයි නිගණ්ඨනාතපුත්ත අපිට කියලා දීලා තියෙන්නෙ. උපාලි මොකෝ ඒ ශ්‍රාවකයා මනෝසත්ත කියන දෙව්ලොව යන්න හේතුව? ස්වාමීනී ඔහු කළුරිය කරන්නෙ සිසිල් දියට මනස බැඳිලා තියෙද්දිනෙ. ඔහුගේ හිත තිබුනේ සිසිල් දියේ කිව්වා. අන්න භාග්‍යවතුන් වහන්සේ එතකොට වදාළා, ගෘහපතිය, ගෘහපතිය, කල්පනාවෙන් කතා කරන්නට ඕන. දැන් ඔබ මේ කරුණු කාරණා කතා කරන්න කලින් කිව්වා නේද වඩාත් වටින්නෙ කායදණ්ඩ, වචීදණ්ඩ, මනෝදණ්ඩ කියන තුනෙන් වඩාත් ප්‍රබල කායදණ්ඩය කියලා කතාවක් ඔබ කිව්වා නේද. දැන් මේ ඔබ කියන කතාව, ඔබගේ මුල් කතාවට ගැලපෙන් නෑනෙ. සිසිල් දිය කෙරෙහි මනස බැඳිලා තිබීම හේතුවෙන් කළුරිය කරපු කෙනා මනෝසත්ත කියන දෙව්ලොව උපදිනවා කියන  කාරණය දැන් ඔබ කලින් කියපු එකට ගැලපෙන් නෑනෙ කිව්වා. එතකොට උපාලි කියනවා ස්වාමීනී, ඔබවහන්සේ ඔහොම කිව්වත්, ඔබවහන්සේ ඔහොම පැහැදිලි කලත් මට නම් පෙන්නේ වඩාත් ප්‍රබල දේ කායදණ්ඩය කියලාමයි. එහෙම නැතිනම් ලාමක වචීදණ්ඩයවත්, මනෝදණ්ඩයවත් නොවෙයි කිව්වා. එතකොට භාග්‍යවතුන් වහන්සේ වදාරනවා, හරි ගෘහපතිය, මේ ගැන ඔබ මොකක්ද හිතන්නෙ. චතුයාම සංවරයෙන් සංවර වෙච්චි නිගණ්ඨයෙක් ඉන්නවා. දැන් බලන්න භාග්‍යවතුන් වහන්සේ සම්මා සම්බුදුනෙ. මේ නිගණ්ඨ දර්ශනය ගැන තමයි මේ කියන්නෙ. බුදුරජාණන් වහන්සේ උපාලිට කියන්නෙ නිගණ්ඨ දහමම අරගෙන. කියනවා, උපාල චතුයාම සංවරයෙන් සංවර වෙච්ච නිගණ්ඨයෙක් ඉන්නවා කියලා හිතමු. චතුයාම සංවරයෙන් කියලා කියන්නෙ මොකක්ද, සියලු සිසිල් ජලය ප්‍රතික්ෂේප කිරීම - එකයි. සියලු පව් නොකිරීම - දෙකයි, සියලු පව් කම්පා කිරීම - තුනයි, සියලු පව් වලින් වැළකීම -හතරයි. ඔය තමයි චතුයාමය කියලා ඒගොල්ලො කියලා තියෙන්නෙ. ඉතින් ඔය චතුයාම සංවරයෙන් සංවර වෙච්චි නිගණ්ඨයෙක් ඉන්නවා. හැබැයි ඔය නිගණ්ඨයා පාරෙ තොටේ ඇවිදිද්දි මේ පුංචි

පුංචි සත්තු ඔහුට පෑගිලා මරණයට පත්වෙනවා. පාරක තොටක ඇවිදිනකොට කුඹි චූටි කුරුම්ණි, පුංචි පණුවෝ එහෙම පෑගිලා මැරෙනවා. ඒ මැරුණහම නිගණ්ඨනාතපුත්ත ඔහුට පනවන්නේ මොනවගේ විපාකයක්ද, දැන් මේ පාරේ තොටේ යනකොට අහම්බෙන් සත්තු පෑගිලා මැරෙනකොට ඒකෙ විපාක විදියට නිගණ්ඨනාතපුත්ත මොනවගේ එකක්ද පනවන්නෙ. කිව්වා ස්වාමීනී එහිලා චේතනාවක් නැති නිසා නිගණ්ඨනාතපුත්ත එය මහා බරපතල දෙයක් විදියට පනවන්නෑ කිව්වා. චේතනාවක් නෑනෙ ස්වාමීනී. බුදුරජාණන් වහන්සේ අහනවා ඈ ගෘහපතිය, චේතනාවක් තියෙනවා නම් හිතලා මතලා නම් ඒක කරන්නෙ, ස්වාමීනී එහෙම කලොත් නම් ඒක බරපතල කර්මයක්. ඉතින් උපාලි නිගණ්ඨනාතපුත්ත ඔය චේතනාව කියන එක පනවන්නේ මොන කොටසෙද? කායදණ්ඩෙද, වචීදණ්ඩෙද, මනෝදණ්ඩෙද? එතකොට කියනවා ස්වාමීනී මනෝදණ්ඩය තුලයි. බුදුරජාණන් වහන්සේ වදාළා, ගෘහපතිය, ගෘහපතිය කල්පනාවෙන් කතා කරන්න ඕන දැන්. දැන් කෝ ඔහේ කලින් කියපු එක දැන් කියපු එකට ගැලපෙන් නෑනෙ. ඔහේ කලින් කිව්වෙ කායදණ්ඩයම ප්‍රබලයි කියලා. දැන් ඔහේ කතා කරන විදියෙන් කරුණු ඉස්මතු වෙන විදියෙන් ජේන්නෙ මනෝදණ්ඩය ප්‍රබලයි කියලානෙ. එතකොට කිව්වා ස්වාමීනී, ඔබවහන්සේ ඔහොම කිව්වත් මම නම් පිළිගන්නෑ. මට නම් හිතෙන්නේම කායදණ්ඩය ප්‍රබලයි කිව්වා. එතකොට භාග්‍යවතුන් වහන්සේ වදාළා හරි ගෘහපතිය එහෙනම් අපි මෙහෙමත් කල්පනා කරමු. මේ නාලන්දාව බොහෝම සමෘද්ධිමත් එකක්. නාලන්දාව කියලා කියන්නෙ බොහොම සාරසම්පන්න මහා විශාල ජනකායක් ඉන්න හොඳ දියුණු වෙච්ච නගරයක්. ඉතින් ඒ කාලෙ නාලන්දාව දැන් අද වෙනකොට පින්වතුනේ ඒ නාලන්දාව ප්‍රදේශයට අපි ගියාට එහෙම දියුණුවක් අද නෑ. බලන්න අනිත්‍ය වෙන හැටි ලෝකෙ. භාග්‍යවතුන් වහන්සේ වැඩ ඉන්නකොට සැවැත්නුවර හත්කෝටියක ජනකායක් හිටියා, අද එහෙම නෑ. වෙනස් වෙලා. බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්නකොට රජගහනුවර බොහොම ජනාකීර්ණ තැනක්, අද වෙනකොට වල්වැදිලා. අනිත්‍ය වෙලා යනවා ලෝකය. ඉතින් ඒ කාලයේ නාලන්දාව කියලා කියන්නෙත් හොඳ ප්‍රධාන රාජධානියක් විදියට තිබ්බ මහා නගරයක්. මිනිස්සු ගොඩාක් ඉදලා තියෙනවා. එක මනුස්සයෙක් නාලන්දාවට කඩුවක් උස්සගෙන ඇවිල්ලා කියනවා මං මේ නාලන්දාවේ ඉන්න සියලු සත්වයෝ එක මොහොතකින් එකම මස්ගොඩක් බවට පත්කරනවා කියලා මේ කඩුව උස්සගෙන කියනවා. කඩුවක් අරගෙන ආපු මනුස්සයෙක් මේ මහා ජනකාය මැද කියනවා මං මේ

නාලන්දාවෙම මිනිස්සු එක මොහොතකින් එකම මස් ගොඩක් බවට පත්කරනවා මේ කඩුවෙන් කියලා. එතකොට ඒක කරන්න තියෙන්නෙ මේ මිනිස්සුන්ව මස් ගොඩක් බවට පත්කරන්න කපලා කොටලා දාන්න තියෙන්නෙ කායික ශක්තියෙන්. කායික ශක්තිය මුල් කරගෙන මම මෙහෙම කරනවා කියලා මනුස්සයෙක් කියනවා. ඇ උපාලි ඔහේට මොකද හිතෙන්නෙ, මනුස්සයාට ඕක කරගන්න පුලුවන් වෙයිද? එතකොට උපාලි කියනවා ස්වාමීනී මෙච්චර මහා ජනකායක් එක මොහොතකින් මස්ගොඩක් බවට පත්කරනවා කියන එක උන්දලාගේ කායබලයෙන් කරන්න පුලුවන් එකක් නෙවෙයි. ස්වාමීනී එහෙව් එකේ එක මිනිහෙක් කොහොම කරන්නද? ඒක බෑ කිව්වා. බුදුරජාණන් වහන්සේ වදාළා එතකොට ගෘහපතිය, අපි ගත්තොත් එහෙම ඍද්ධිමත් තාපසයෙක්, චිත්ත වශීප්‍රාප්ත තාපසයෙක් ඉන්නවා. හිත වසඟයට ගත්තු කෙනෙක්. ඒ හිත වසඟයට ගත්තු ඍද්ධිමත් තාපසයා මේ නාලන්දාවට ඇවිල්ලා නාලන්දාව ගැන මෙහෙම කතාවක් කියනවා. මම දැන් මගේ හිතේ වසඟයෙන් මං හිතේ උපද්දගත්ත චිත්ත ශක්තියෙන් මේ නාලන්දාව මොහොතකින් අලු කරනවා මං කියලා කියනවා. එතකොට අහනවා උපාලි, චිත්ත වශීප්‍රාප්ත ඒ ඍද්ධිමත් කෙනාට ඒක කරන්න පුලුවන් ද බැරිද? එතකොට උපාලි කියනවා, ස්වාමීනී, චිත්ත වශීප්‍රාප්ත ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් නාලන්දා දහයක් වුනත්, නාලන්දා විස්සක් වුනත්, තිහක් වුනත්, හතළිහක් වුනත්, පනහක් වුනත් එක මොහොතකින් අළු කරයි. මේ එකම එක නාලන්දාව ගැන කවර කතාද කිව්වා. ඔන්න එතකොට භාග්‍යවතුන් වහන්සේ වදාළා ගෘහපතිය, ගෘහපතිය කල්පනාවෙන් උත්තර දිය යුතුයි. දැන් ඔහේ කිව්වා නේද කායදණ්ඩයමයි ප්‍රබල කියලා. නමුත් ඔහේ කරුණු ඉස්මතු කරගන්නකොට තේරෙන්නේ මනෝදණ්ඩය ප්‍රබලයි කියලයි. ඔහොම කතාබහක් සිදුවුනා. ඉතින් මේ කතාබහ බොහොම දීර්ඝ එකක්. පින්වතුන්ලාට කියවගන්න පුලුවන් මජ්ඣිම නිකායේ උපාලි සූත්‍රය. ඔය විදියේ කතාබහ සිදුවෙනකොට උපාලි අවසානයේ කියනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, බුදුරජාණන් වහන්සේ ළඟට පැමිණිලා යම් කතාවක් මං ආරම්භ කලාද, පළවෙනි ප්‍රශ්නයට දීපු උත්තරෙන්ම මං බුදුරදුන් ගැන පැහැදුනා. නමුත් භාග්‍යවතුන් වහන්සේ දහම් අර්ථ තෝරන ලස්සන අහන්න ආසාවෙන් මං ස්වාමීනී දිගින් දිගටම, දිගින් දිගටම එකම මතයේ හිටියා. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස හරිම සුන්දරයි, හරිම සුන්දරයි ශාස්තෘන් වහන්සේගේ දහම් කතාව. බුදුරජාණන් වහන්සේ මට මංමුලා වෙලා ඉද්දි පාර පෙන්නුවා. මං

අද පටන් බුදුරජාණන් වහන්සේ සරණ යනවා කිව්වා. එතකොට භාග්‍යවතුන් වහන්සේ වදාරනවා උපාලි, ඔබ ප්‍රසිද්ධ වෙලා ඉන්නෙ මුලු නාලන්දාවෙම නිගණ්ඨ ශ්‍රාවකයෙක් විදියට. ඒ හින්දා උපාලි සරණ වෙනස් කරන්න කලින් පොඩ්ඩක් හිතලා බලන්න කිව්වා. එකපාර තනි තීරණයකට එන්න එපා කිව්වා. එතකොට උපාලිට තවත් සතුටුයි. කියනවා ස්වාමීනී, ඔබවහන්සේ ඔහොම කියද්දී මට තවත් තදින් සරණ යන්න හිතෙනවා. මොකද මං වගේ ධනවත් ප්‍රසිද්ධ මනුස්සයෙක් වෙන ආගමකට එහෙම ගියා නම් මේ නගරයේ කොඩි දානවා උපාලි අපේ ශ්‍රාවකයෙක් වුනා කියලා. ඔබවහන්සේ කියනවා තව ටිකක් හිතන්න කියලා. ස්වාමීනී දෙවෙනි වතාවටත් මං බුදුරජුන්ම සරණ යනවා කිව්වා. එතකොට භාග්‍යවතුන් වහන්සේ වදාරනවා උපාලි, ඔබ බොහෝම ධනවත් කෙනෙක්, ඔබ බොහෝම ප්‍රසිද්ධ කෙනෙක්. නිගණ්ඨයන්ට ඔබේ නිවස පැන් පොකුණක් වගේ වෙලා තිබුනෙ. ඔබ නිතර නිගණ්ඨයන්ට දන් දීපු කෙනෙක්. උපාලී ඔබ මගේ ශ්‍රාවකත්වයට ආවට කමක් නෑ. නිගණ්ඨයන්ට දෙන දන්පැන් නවත්වන්න එපා කිව්වා, බලන්න කරුණාව. අපි සරණ ගියපු ශාස්තෘන් වහන්සේගේ කරුණාව. බුදුරජාණන් වහන්සේ එහෙම වදාරනකොට උපාලි කියනවා ස්වාමීනී, අපි අහලා තිබුනු කතාව සම්පූර්ණ වැරදියිනෙ. අපි අහලා තිබුනෙ ස්වාමීනී, බුදුරජුන් දේශනා කරන්නෙ මටම දන් දීපන්, මගේ ශ්‍රාවයකයන්ටම දීපන් කියලා. නමුත් ස්වාමීනී ඒ අහපු ඒවා බොරු බව දැන් පේනවානෙ. බුදුරජාණන් වහන්සේ දැන් මට කියනවා නිගණ්ඨයන්ට දෙන දානය නම් නවත්වන්න එපා කියලා. ස්වාමීනී, ඒ ඇයොන්ට සැලකිය යුතු විදිය ගැන මං දන්නවා කිව්වා. එහෙම කියලා උපාලි ආයෙ සරණ ගියා. ඉතින් මේක පින්වතුනේ කටකතාවක් විදියට වේගයෙන් පැතිරිලා ගියා උපාලි බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් වුනා කියන කතාව. නිගණ්ඨනාතපුත්ත උපාලිව හොයාගෙන එනවා. උපාලි හොයාගෙන ඇවිල්ලා උපාලිට කිව්ව කතාව, උපාලිට නිගණ්ඨනාතපුත්ත කියනවා එම්බා උපාලි, උඹට පිස්සු හැදුනාද. උඹ මහා ලොකුවට ගියා නේද ශ්‍රමණ ගෞතමයන්ට මං වාදයක් කරනවා, වාද කරලා ශ්‍රමණ ගෞතමයන්ව හරියට දිග ලොම් තියෙන එළුවෙක්ව ලොම් වලින් අල්ලලා පෙරලනවා වගේ මං පෙරලලා දානවා, ශ්‍රමණ ගෞතමයන් වහන්සේව හරියට මහා හස්තිරාජයෙක් විලක් කළඹවනවා වගේ මං කළඹලා දානවා, මෙහෙම කියාගෙන ගියා නේද. ගිහිල්ලා උඹ වාද බන්ධනයේ හිරවෙලා ආවට්ඨනී මායාවට අහුවෙලා ආවා නේද. ඈ ගෘහපතිය, පුරුෂයෙක් අණ්ඩකෝෂ දෙකම ඇතිව ගිහිල්ලා අණ්ඩකෝෂ ගලවගෙන ආවා

වගේනෙ කිව්වා. බලන්න මේ නිගණ්ඨනාතපුත්ත කියන ජරා කතා. ඊළඟට කියනවා, ගෘහපතිය හරියට නුඹට වුනේ පුරුෂයෙක් ඇස් දෙකම ඇනිව ගිහිල්ලා ඇස් දෙකම ගලවගෙන ආවා වගේ වැඩක්නෙ. ආවට්ඨනී මායාවට අහුවුනා නේද කිව්වා. ඔන්න එතකොට උපාලි කියනවා, භද්දිකා භන්තෙ ආවට්ඨනී මායා - ස්වාමීනී ඒ බුදුරදුන්ගේ ආවට්ටනී මායාව නම් ඇත්තෙන්ම සුන්දරයි. කල්‍යාණි භන්තෙ ආවට්ඨනී මායා - ස්වාමීනී ඒ ආවට්ඨනී මායාව නම් හරීම සැපසහගතයි. පිය මේ භන්තේ ඤාති සාලෝහිතා ඉමාය ආවට්ඨනියා ආවට්ටෙය්‍යුං - අනේ ස්වාමීනී මං ආදරය කරන හැමෝම බුදුරදුන්ගේ ආවට්ඨනී මායාවට අහුවෙලා යනවා නම්. ඒ මං ආදරය කරන අයට ඒක බොහෝ කල් යහපත පිණිස හේතු වෙනවා. අන්න පැහැදිච්ච ශ්‍රාවකයො කියපු විදිය. අවසානෙ කියනවා සදේවකො චෙපි භන්තෙ ලෝකො - ස්වාමීනී මේ මුළු මහත් ලෝකයාම බුදුරදුන්ගේ ආවට්ඨනී මායාවට හසුවී යනවා නම් ඒක ලෝකෙටම යහපතක් කිව්වා. ඒ ආවට්ඨනී මායාව කිව්වෙ මොකක්ද, නුවණැත්තන්ගේ දහමයි. නුවණැත්තන්ගේ දහම වන අපගේ ශාස්තෘන් වහන්සේ මේ ලෝකයට මහා කරුණාවෙන් දේශනා කරපු ධර්මයට යම් කෙනෙකුගේ හිත පැහැදී ගියා නම් එයා ඒකාන්ත වශයෙන් සැපයට පත්වෙනවා. එයා ඒකාන්ත වශයෙන් ජීවිතයේ සැපයට පත්වෙනවා. අපි මේ ඒ අමා නිවන් දුටු රහත් තෙරණිවරු දේශනා මාලාවේදීත් මීට පෙර අපි සිද්ධ කරපු ඒ අමා නිවන් දුටු රහතන් වහන්සේලා දේශනා මාලාවේදීත් අපි ඉගෙනගත්තේ අපි කතා කලේ කතා කරමින් ඉන්නෙ මේ ආවට්ඨනී මායාව නම් වූ බුදුරජුන්ගේ සොඳුරු දහම තුළට පත් වෙලා ඒ ධර්මය තුළට පැමිණිලා ජීවිත මුළුමනින්ම සැපවත් කරගත්ත උත්තමාවියො, උත්තමයන් වහන්සේලා ගැන. දැන් අද ඉගෙන ගත්තේ සුජාතා නම් රහත් තෙරණින් වහන්සේ ගැන. ඉතින් අපි රහත් තෙරණින් වහන්සේට නමස්කාර කරමින් අපිත් අධිෂ්ටාන කරමු අපිටත් ඒ බුදුරජාණන් වහන්සේගේ සුන්දර සද්ධර්මය, ධර්මය අවබෝධ කරපු ධර්මය තුළට පැමිණි අය සුන්දරයි, ආශ්චර්‍යයි, ලස්සනයි කියලා වර්ණනා කරපු බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය අපිට මේ මනුස්ස ජීවිතේ ඉගෙන ගන්න ලැබුනා. මේ ධර්මය ඉගෙන ගන්න ලැබිච්චි ජීවිතේ තෙරුවන් සරණේ පිහිටා දහම් මග දියුණු කරගෙන අපිටත් මේ ගෞතම ශාසනයේ පිහිට පිළිසරණ රැකවරණ සලසාගන්න වාසනාව ලැබේවා. ඒ රහතන් වහන්සේලා, රහත් තෙරණින් වහන්සේලා නිවී සැනසුනු අමා නිවනේ සැනසෙන්න අපි හැමදෙනාට වාසනාව ලැබෙන්වා සාදු සාදු සාදු!!!

රැස් කල සියලු පුණ්‍ය ධර්මයෝ සියලු දෙවියෝ සතුටින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන් වන දෙවියෝ දිව්‍ය සැපයෙන්, දිව්‍ය ආශ්චර්යයෙන් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ රැකවරණ අපි හැමදෙනාට දෙවියෝ සලසත්වා. දෙවියෝද සසර දුකින් අතමිදේවා සාදු සාදු සාදු!!! රැස් කල සියලු පුණ්‍ය ධර්මයන් ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව නිරෝගීව දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා, ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අද දවසේ ධර්ම දානමය පින්කම සිදු කරන ඒ සුපින්වතුන්ලාගේ නමින් මියපරලොව ගිය පින්වත් යූ.බී. යසපාල පියාණන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. දායකත්වය දැරූ පින්වතුන්ලා හැමදෙනාගේ නමින් මියගිය සියලු ඥාතීන්ට පින් අනුමෝදන්ව ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා, දුක් සහිත සසරින් අපගේ ඥාතීන් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනාව සිදු කරන්න. අද දවසේ ධර්ම දානමය පින්කම සිදු කරනු ලබන්නේ පින්වත් ආලෝකා, අනුලාවතී, කරුණාවතී, කුමාරිහාමි, රුක්මණී, බිසෝමැණිකා, අචලා, සමුද්‍රිකා, තුෂාරා, අජන්තා, සචිනි, හිරන්‍යා, අනුෂිකා, රවිඳු, අෂේන්, බුද්ධිකා, දිනේෂිකා, ඉරේෂිකා, මධුෂානි, උපේක්ෂා, දිනුෂා, ස්වර්ණා, මල්ලිකා, ගාමිණී, ඉලේපෙරුම, රුවනි, ලක්මිණී, කාන්ති, සුමුදු, සුපුනි, ශසිනි, කුමාර, සචිනි, මධාරා, නිමාලි, නිශාන්ත, ලක්ෂිකා, මේනකා සහ රාධිකා කියන මේ සැදැහැවත් පින්වතුන්ලා සෑම සියලුදෙනා ඒකරාශී වෙලයි ධර්මදානය සිදු කලේ. ඒ පින්වතුන්ලා හැමදෙනාටත් ඒ පින්වතුන්ලාගේ පවුල්වල සෑම සියලු දෙනාහටත් පින් අනුමෝදන්ව සියලු දෙනාට නිදුක් නිරෝග සුව සැලසේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා, කරන කියන රැකී රක්ෂා ආදියත් දරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදියත් සර්වප්‍රකාරයෙන් සාර්ථක වෙත්වා, දියුණුවට පත්වෙත්වා, මේ කල්‍යාණමිත්‍ර ආශ්‍රය ලැබුනු ජීවිතයේ කරදරයකින් බාධාවකින් තොරව සුවසේ දහම් මග දියුණු කරගන්න අවකාශ ලැබෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලා හැමදෙනාටත් ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සෑම සියලු දෙනාටත් සුපින්වත් ඔබ හැමදෙනාටත් සුවසේ දහම් මග දියුණු කරගෙන සම්බුද්ධ ශාසනයේ සුවසේම ධර්මාවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. පින්වතුන් හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=8Gxr6xOfjak

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද දවසේ ධර්ම දේශනාවට දායකත්වයන් දරමින් ධර්ම දානමය පින්කම සිද්ධ කරන්නෙ සැදැහැවත් පින්වතුන්ලා පිරිසක්ම ඒකරාශී වෙලා දම්සක් කළණමිතුරෝ එකමුතුවේ සාමාජිකයින් වන පින්වත් සොනාලි, සඳකැළුනි, ලේඛා රවිහංසි, දිනූඛා, සුබෝධ, නිලූකා, චතුරිකා, චමෝදි, නයනා, ලසන්තිකා, සන්ධ්‍යා හසිනි, චාතිනී, දුලීකා, වජීරා, ශ්‍රියානි, ලහිරු, නිලුපුල්, පුබුදුනී මිස්, ලක්ෂිකා, නිෂාදිකා, ප්‍රියානි, නදී, දිලාන්, කල්හාරි, අංජලී, කසුන්, දිලුමි, ජයකි, මධූක, නර්මදා, රනුල්ක, නිමාලි, විශ්වනී සහ ශෂී කියන මේ පින්වතුන්ලා. ඒ පින්වතුන්ලා විසින් දම්සක් කළණමිතුරෝ නමින් යහපත් එකමුතුවක්, සංසඳයක් සකස් කරගෙන ඒ පින්වතුන්ලාගේ දායකත්වයෙනුයි අද දවසේ මේ ධර්ම දානය මේ විදියට සිද්ධ කරන්නෙ. ඉතින් ඒ හැමදෙනාටම මේ ධර්මදානමය පින තමන්ගේ ජීවිතේ සියලු යහපත පිණිසම හේතුවේවා කියන අදහසින් යුක්තවම අපි මේ උතුම් බණ පදය අද ශ්‍රවණය කරමු. ඒ අමා නිවන් දුටු රහත් තෙරණිවරු ගැනයි අපි ඉගෙන ගන්නෙ. අද අපි ඉගෙන ගන්නෙ අනූපමා කියන රහත් තෙරණියගේ චරිතාපදානය. අනූපමා කියලා කියන්නෙ දඹදිව බොහෝම ධනවත් සිටු පවුලක උපන්න තැනැත්තියක්. මේඝ කියලා සිටුවරයෙක් හිටියා ඒ කාලෙ ඔන්න ඔය මේඝ කියන

මහසිටුතුමාගේ එකම දුව විදියට තමයි ඇය උපන්නෙ. අටුවා පොත් වහන්සේගේ සඳහන් වෙන්නෙ තරුණ වයසට එළඹෙනකොට මේ දුවගේ රූපය පුදුම ලස්සනක් කියනවා. ඒ ලස්සනට උපමා කරන්න උපමාවක් වත් නෑ කියන අදහසින් තමයි ඈට අනුපමා - උපමා නැති තැනැත්ති, ඒක තමයි නමේ තේරුම - අනුපමා කියන නම යෙදුවේ. ඉතින් ඔය අනුපමා තරුණිය තරුණ වයසට එළඹෙද්දී බුද්ධ ශාසනයේ පැවිදි බව ලබන්න ඇයට අවකාශ ලැබුනා. ඒ ගැන සිදුවීම ගැන අනුපමා තෙරණියගේ ගාථා වලම සඳහන් වෙනවා. ඒ ගාථා මේ විදියටයි කියවෙන්නෙ. උච්චෙ කුලේ අහං ජාතා බහු විත්තෙ මහා ධනෙ - මං ඉපදුනේ ගොඩාක් සැප සම්පත් තියෙන බොහොම ධනවත් කුලයක. උසස් පවුලක. වණ්ණ රූපේන සම්පන්න දීතා මේඝස්ස අත්‍රජා - මං මේඝ සිටුතුමාගේ දුව. මං ඒ කාලෙ හරීම ලස්සන තැනැත්තියක්. පත්තිතා රාජපුත්තේහි සෙට්ඨී පුත්තේහි විජ්ජිතා - රාජ කුමාරයො සිටු කුමාරෙයා මට ගොඩාක් කැමැති වුනා. පිතුනේ පේසයී දූතං දේත මය්හං අනුපමං - ඔය අනුපමා දුව මට පාවා දෙන්න කියලා අපේ පියාට රජකුමාරවරු සිටු කුමාරවරු දූතයො පවා එව්වා කියනවා. ඉතින් බොහෝම ධනවත් පවුලක ඈ ඉපදිලා, රූප සම්පත්තියෙනුත් යුක්ත වෙලා පිළිගැනීම් වලිනුත් යුක්ත වෙලා, සාමාන්‍ය ලෝකය තුළ ඔක්කොම තියෙනවා කියලා කියන මට්ටමක හිටපු කෙනෙක්. ඉතින් මෙන්න මෙහෙමත් සමහරු කියලා තියෙනවා. ඔබේ අනුපමා දුව තරාදියේ එක පැත්තක තියලා, අනෙත් පැත්තේ ඒ බරට ධනය ලබාගෙන නම් දුව දෙන්නෙ අපි ඊට වඩා අටගුණයක් රන් වලින් දෙනවා. දූගේ බරට වඩා අට ගුණයක් ධනය දෙනවා අපිට දුව දෙන්න කියලා, කියලා තියෙනවා. ඉතින් එතකොට හිතාගත්තහැකි ඇයට කොච්චර ලස්සන, ඈ තුළ කොච්චර සුන්දරත්වයක් තියෙන්න ඇති ද කියලා. හැබැයි මෙහෙම කියනවා, සාහං දිස්වාන සම්බුද්ධං ලෝකජෙට්ඨං අනුත්තරං - නමුත් මුළුලෝකෙටම ජ්‍යෙෂ්ටයන් වහන්සේ වූ අනුත්තර වූ බුදුසම්දුන්ව මං දැකගත්තා. උන්වහන්සේගේ සිරිපා කමල් යුග වන්දනා කරගත්තා, එකත්පස්ව හිඳගත්තා. ඒ ඔක්කොම දේවල් තියෙද්දි මේ ජීවිතය ඇතුලේ හැබෑම සැපයක් ශාන්තියක් සුවයක් සැනසිල්ලක් සරණක් ලබාදෙන්න පුලුවන් සම්බුදුරජාණන් වහන්සේව ඇයට මුණගැහුනා. ඇත්තෙන්ම පින්වතුනි මේ ලෝකයේ අපි ධනය ඇතුව උපදින්න පුලුවන්, ධනවතුන් වෙලා. සල්ලිකාරයො වෙලා. ධනය ඇතුව ජීවත් වෙලා ධනය අත්හැරලා අපිට යන්න වෙනවා. ධනය තියෙන කල් අපිට තියෙයි යම් සැනසිල්ලක්, ධනය තියෙනකල් අපිට එයි උජාරුවක්. හැබැයි ඒ ධනය මේ ජීවිතයේදීම අපිට අහිමි වෙන්න

පුලුවන්. එහෙම නැත්නම් ධනය මෙහේ තියෙද්දි සමහර විට අපි මැරිලා යනවා. දේපොළ වුනත් එහෙමයි. අනිකුත් වස්තු සම්භාර වුනත් එහෙමයි. බලය වුනත් එහෙමයි. අපි වටිනවා වටිනවා කියලා මේවා ගැන හිතාගෙන හිටියට නුවණින් කල්පනා කරනකොට තේරෙනවා මේවගේ තියෙන වටිනාකම සැණෙකින් අහිමි වෙන්න පුලුවන් බව. ඒවගේ තියෙන වටිනාකම අපේ ජීවිතයට හැබෑ රැකවරණයක් ලබාදෙන්නෙ නැති බව හොඳට නුවණින් හිතුවොත් අපිට තේරෙනවා. එතකොට මොකක්ද හැබෑම රැකවරණය? හැබෑවටම අපේ ජීවිතේට තියෙන රැකවරණය මොකක්ද? ඒ ගැන බුදුරජාණන් වහන්සේ එක අවස්ථාවක දේශනා කලා. ඒ දේශනා කරන්න හේතු වුනේ උග්ග කියලා ඇමැතියෙක්. ඔය උග්ග කියන රාජ ඇමැතියා භාග්‍යවතුන් වහන්සේ ළඟට දවසක් පැමිණෙනවා සැවැත්නුවර ජේතවනාරාමයේ වැඩ ඉද්දි. ඇවිල්ලා බුදුරජාණන් වහන්සේට බොහෝම ගෞරවයෙන් වන්දනාමාන සිද්ධ කරලා උග්ග ඇමැති වාඩිවුනා. වාඩිවෙලා භාග්‍යවතුන් වහන්සේට කියනවා මේ උග්ග ඇමැතිගේ හිත ගියපු තැන. කියනවා ස්වාමීනී හරි ආශ්චර්යයියි, හරී පුදුම සහගතයි මේ රෝහණ සිටුතුමාගේ මුණුපුරා, මිගාර සිටුවරයා, ඒ මිගාර සිටුවරයාට පුදුම සල්ලියක්නේ තියෙන්නෙ ස්වාමීනී, පුදුම ධනයක්. මහා භෝග, මහා ආඪ්‍ය කෙනෙක්. ඔය මිගාර සිටුවරයා කියලා කියන්නෙ පුදුම ධනවතා කිව්වා. එතකොට භාග්‍යවතුන් වහන්සේ අහනවා, ඈ උග්ග, ඔය රෝහණ සිටුතුමාගේ මුණුපුරා වන මිගාර සිටුවරයා කොයි වගේ ධනවතෙක්ද? කොච්චර බෝග සම්පත් ඔහුට තියෙනවාද? කියනවා ස්වාමීනී, රනින් විතරක් ගත්තොත් ලක්ෂයක්. රන් විතරක් ගත්තොත් ස්වාමීනී ලක්ෂයක්. රන් තියෙන්නෙ ලක්ෂ ගණනින්. රිදී ආදිය ගැන ස්වාමීනී කවර කතාද, ඔහොම කිව්වා. බලන්න භාග්‍යවතුන් වහන්සේත් ඒ කතාවට පසුබිම යොදාගැනීම පිණිස ඒ උග්ග ඇමැතියා කතා කරන දේම කියන හැටි. සාමාන්‍ය මිනිස්සු පින්වතුනි, ධනය හොයන මිනිස්සු ධනයටමයි ආස කරන්නෙ. දේපළ සම්පත් හොයන මිනිස්සු දේපළ සම්පත්තියටමයි ආසා කරන්නෙ. ඒක සාමාන්‍ය ලෝකයේ හැටියක්නෙ. දැන් අපි ගත්තොත් එහෙම වර්තමානයේ වුනත් ගමක, යමක් කමක් වැඩිපුර තියෙන කෙනෙක් ගැන ගමේ අනිත් මිනිස්සු කතා වෙන් නැත්ද? ඒ අරගොල්ලන්ට පුදුම සල්ලියක්නේ තියෙන්නෙ. වතුපිටි අක්කර ගණන්. වාහන මෙච්චරක් තියෙනවා. අපි එහෙම කියන්නැද්ද, අන්න ඒ ක්‍රමයමයි. ඒ ක්‍රමයමයි මේ උග්ග කියන අමාත්‍යයා බුදුරජාණන් වහන්සේ ඉස්සරහ මේ කිව්වෙ. ස්වාමීනී පුදුම සල්ලියක්, රන් විතරක් ලක්ෂයක්. රිදී ආදිය

ගැන කවර කතාද. භාග්‍යවතුන් වහන්සේ වදාළා උග්ගයෙනි, ඔය ධනයත් ධනයක්ම තමයි. මං ධනයක් නෙවෙයි කියලා කියන් නෑ. හැබැයි උග්ගයෙනි, ඔය ධනය ඔබ ඔය කියන රන් රිදී, මසු කහවණු, දේපළ සම්පත්, යාන වාහන, වස්තු සම්භාර ගින්නට සාධාරණයි නේද? ගින්නට සාධාරණයි කියලා කිව්වෙ මොකක්ද, හදිසියේ ගින්නක් හටගත්තොත් ඔය කියන්නා වූ වස්තු ඔක්කොම නැසිලා යන්න පුලුවන් නේද කියලා ඇහුවා. දැන් ඇතැම් අවස්ථා එන්නැද්ද පින්වතුනේ මහා ධන සම්පත් ඇතිව ගොඩාක් සැප සම්පත් වලින් යුක්තව ජීවිතය ගත කරන මිනිස්සු හදිසියට ගින්දරට අහුවෙනවා. ඒ ගිනි වලට අහුවුනාට පස්සෙ ඒ මනුස්සයාගේ තියෙන සියලූ ධනය නැසිලා විනාශ වෙලා යන්නැද්ද. එක ගින්නකට පුලුවන් කියනවා ඔක්කොම ධනය නසලා දාන්න. එහෙම නම් ඒ ධනය ගින්නට සාධාරණයි. අපි ධන සම්පත් කොච්චර අපේ කියලා හිතාගෙන හිටියත් එක ගින්නකට පුලුවන් පින්වතුනේ ඒ ධන සම්පත් ඔක්කොම සැණෙකින් විනාශ කරලා දාන්න. ඊළඟට බුදුරජාණන් වහන්සේ අහනවා, උග්ගයෙනි ඔය ධන සම්පත් ජලයටත් සාධාරණයි නේද? ජල ගැල්මක් ආවොත් එහෙම ඒ ජල ගැල්මකට පුලුවන් එක සැණෙකින් අර වස්තු සම්භාර ඔක්කොම නසලා දාන්න. දැන් ඔබට මතක ඇති සුනාමි ව්‍යසනය. සුනාමි ව්‍යසනය එනකොට මිනිස්සු ගෙවල් දොරවල් හදාගෙන හිටපු ඒවා එක සැණෙකින් නසලා දැම්මානෙ. මහ නගර පිටින් යට කරලා දැම්මානෙ. ශක්තිමත්ව හදපු ගෙවල් දොරවල් සමතලා කරගෙන වතුර ටික ඒ ඔක්කොම විනාශ කරලා දැම්මානෙ. ජලයට සාධාරණයි. අපි එකතු කරගෙන ඉන්න ධන සම්පත්තිය, අපි අපේ කියලා හිතාගෙන හිටියට ජලයට නසන්න පුලුවන්. ඊළඟට උග්ගයෙනි ඔය ධනය රජවරුන්ට, හොරුන්ට, අප්‍රිය අමනාප අයටත් සාධාරණයි නේද? ඔය එකතු කරගන්න ධනය ඕන නම් රජවරුන්ට පැහැර ගන්න පුලුවන්. ආණ්ඩුවට ගන්න පුලුවන්. ඒ කාලයේ රාජ්‍ය පාලන ක්‍රමය තියෙද්දි රජවරු මාරුවෙනකොට සතුරු රජවරු සමහරවෙලාවට මනුස්සයන්ගේ ධනය කොල්ල කනවා. හොරු ධනය කොල්ල කනවා. අප්‍රිය අමනාප අය මේ ධනය විනාශ කරනවා. එතකොට නවත්වගන්න බෑ, සල්ලි ගන්න පුලුවන්, වතුපිටි වෙන්න පුලුවන්. යාන වාහන වෙන්න පුලුවන්. තමන් ආදරය කරන අය වෙන්න පුලුවන්. හැමදේම නැසිලා යනවා. එහෙනම් පේනවා ඒ දේවල් ලැබුනහම අපි මත් වුනාට ඒවා අපිටම අයිති ඒවා නෙවෙයි. දැන් අපි ගත්තොත් එහෙම අනූපමාවගේ ජීවිතේ, මේඝ සිටුවරයාගේ දූ විදියට ඈ උපන්නා. ඇටත් තිබුනා බොහෝ ධනය. ඒ ධනයත් ගින්නෙන්, ජලයෙන්, හොර

හතුරන්ගෙන් නැසෙන්න පුලුවන් එකක්. ඇයට තිබුනා ගොඩාක් වස්තුව. ඒ වස්තුවත් නැසෙන්න පුලුවන් වස්තුව. ඇයට තිබුනා ගොඩාක් වතුපිටි. ඒවා ඔක්කොම නැසෙන්න පුලුවන් දේවල්. ඊළඟට අපි ගත්තොත් එහෙම ඇට තිබුනා හොඳ ලස්සන රූප සම්පත්තියක්. රූප සම්පත්තිය පුලුවන්ද පින්වතුනි හැමදාම පවත්වන්න. එක ගින්නකට විකෘති කරලා දාන්න පුලුවන්. එක හදිසි අනතුරකට විකෘති කරලා දාන්න පුලුවන්. ලස්සන රූප තියෙන අය ඉන්නවා. ලස්සන රූපය දිහා බල බලා සන්තෝෂ වෙන අය ඉන්නවා. තරුණ වයසේදී කණ්ණාඩිය ගාවට ගිහිල්ලා හැමතිස්සෙම තමන්ගේ මූණ බල බල සතුටු වෙන ස්ත්‍රීන් පුරුෂයො ඉන්නවා. හදිසි අනතුරු සිද්ධ වෙනවා. හදිසි අනතුරක් හේතුවෙන් මේ ශරීරයේ අපි හිතමු මූණටම හානි වුනා කියලා. එක සැණෙකින් ඔක්කොම විනාශ වෙලා යන්නැද්ද? එක සැණෙකින් විනාශ වෙනවා. එතකොට අපි මේ සැප විඳින්න කියලා, සැපයක්ය කියලා වැළඳගන්න දේ අපිට දුක උපද්දවන වෙලාව පින්වතුනි අපිට හොයන්න බෑ. ඉතින් ඒ නිසයි භාග්‍යවතුන් වහන්සේ වදාළේ උග්ගයෙනි, ඔය ඔක්කොම ගින්නට, ජලයට, හොරහතුරන්ට, රජ්ජුරුවන්ට සාධාරණ ඒවා. අහිමි වෙන්න පුලුවන්. එහෙම කිව්වෙ භාග්‍යවතුන් වහන්සේ ඒ ධනයේ තියෙන නිසරු බව පෙන්වන්න. උග්ගට මේක තේරුණා. බුදුරජාණන් වහන්සේ අහනවා උග්ගයෙනි, විනාශ නොවෙන ධනයක් ගැන මං ඔබට කියාදෙන්නම්. උග්ගයෙනි, සප්ත ධනයක් තියෙනවා මේ සම්බුද්ධ ශාසනය ඇතුලේ. ධන හතක්. ඒ ධන හත ගින්නට නසන්න බෑ, ඒ ධනයට යමෙක් හිමිකාරයෙක් බවට පත්වුනොත් එහෙම ගින්නකට බෑ ඒ ධනය නසන්න. ඒ ධනයට යමෙක් හිමිකාරයෙක් බවට පත්වුනොත් එහෙම ජලයට බෑ ඒ ධනය නසන්න, යම් කෙනෙක් ඒ ධනයට හිමිකාරයෙක් බවට පත්වුනොත් එහෙම හොර හතුරෙකුට බෑ ඒ ධනය පැහැරගන්න. ආණ්ඩුවටත් බෑ ඒ ධනය පැහැරගන්න. තමන් අකැමැති කිසි කෙනෙකුට බෑ ඒ ධනය පැහැර ගන්න. මොනවාද ඒ ධන? මේවා කියනවා බුද්ධ ශාසනය ඇතුලේ සප්ත ආර්ය ධන කියලා. මොනවාද මේ සප්ත ආර්ය ධන?පළවෙනි එක - ශ්‍රද්ධා ධන. ශ්‍රද්ධාව කියන ධනය, ශ්‍රද්ධාව කියලා කිව්වෙ මොකක්ද සග්ග රක්ඛි තථාගතස්ස බුද්ධොදිං - තථාගත බුදුරජාණන් වහන්සේගේ අවබෝධය අදහා ගැනීම. බුදුරජාණන් වහන්සේ යමක් වදාරනවාද, ඒක සත්‍යයක් කියලා අදහා ගැනීම. ඒ භාග්‍යවතුන් වහන්සේ අරහං සම්මා සම්බුද්ධයි කියලා අදහාගැනීම. අන්න එහෙම අදහාගැනීමකට එනවා නම් ඒකට කියනවා ශ්‍රද්ධා ධන. ඒ ශ්‍රද්ධා ධනය තමා සන්තක ධනයක්. තමන්ගේ එකක්. ඒක මේ ලෝකයේ වෙන කාටවත්

නසන්න බෑ. ඒක තමන් එක්කම ඉන්න ධනය. තමන්ට කිසි කලෙකත් අහිමි නොවෙනා ධනය ශ්‍රද්ධා ධනයයි. ශ්‍රද්ධාව කියන එක පින්වතුනේ මේ ලෝකෙ කිසි කෙනෙකුට අහිමි කරලා දාන්න බෑ, ඒක වැනසෙන්නේ නැති වනයක්. දැන් බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න කාලයේ, මට මතක විදියට රජගහනුවර හිටියා, සුප්පබුද්ධ කියලා කුෂ්ටරෝගියෙක්. ඔය සුප්පබුද්ද කියලා කියන්නෙ හිඟාකාපු කෙනෙක්. ඒ කෙනාට ලොකු ධන සම්පත්තියක් තිබුනෙ නෑ, බොහොම දුකසේ හිඟාකමින් තමයි ඔහු ජීවිතය ගත කළේ. මේ හිඟාමින් ඔහු යනකොට, ඔහු කෑමක් සොයාගෙන ගියා. කෑම හොයාගෙන යනකොට පිරිසක් ඒකරාශී වෙලා යම් තැනක එකතු වෙලා ඉන්න විදිය ඔවුන්ට දකින්න ලැබෙනවා. ඔහු හිතුවෙ දකිනකොටම, සුප්පබුද්ධ හිතුවෙ මේ නම් එකත් එකටම කෑම බෙදන තැනක්, දන්සැලක්ද කොහෙද. ළංවුනා, ළංවෙලා බලද්දි දන්සැලක් නෙවෙයි එතන බුදුරජාණන් වහන්සේ බණ කියනවා. එතකොට සුප්පබුද්ද ළංවෙලානෙ. ඉතින් කල්පනා කලා ආපු එකේ බණ පදයත් අහගෙනම යනවා. වාඩිවෙනවා. බුදුරජාණන් වහන්සේගේ ධර්මය දේශනා කලා. අනුන්ට අතපාගෙන යන සළකන්න කාත්කවුරුවත් නැති සැප සම්පත් මොකවත් නැති සුප්පබුද්දට ආර්ය ධනය ලැබෙනවා. සෝතාපන්න වුනා. සෝතාපන්න වෙලා මේ සුප්පබුද්ද භාගයවතුන් වහන්සේට වන්දනා කරලා නැගිටලා යනවා. ඉතින් වැඩිදුරක් යන්න හම්බුන් නෑ, එදාම සුප්පබුද්දගේ මරණය සිද්ධ වුනා. මරණයට පත්වුනාට පස්සෙ පින්වතුනේ නිදාගෙන පිබිදියාක් වගේ ඔහු ගිහින් උපන්නා, සුගතියේ, දෙවියන් අතරේ. සුප්පබුද්දගේ මරණය ගැන භික්ෂූන් වහන්සේලා අහනවා. භාගයවතුන් වහන්සේගෙන්. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, අද බුදුරජාණන් වහන්සේ දහම් දෙසනකොට එතෙන්ට දුගී දුප්පත් තැනැත්තෙක් ආවා, මුළු ඇඟේම කුෂ්ටයක් තියෙන. සුප්පබුද්ධ කියලා. ස්වාමීනී මේ මනුස්සයා හරකෙක් ඇනිලා මැරිලානෙ. ස්වාමීනි එයා කොහේ උපන්නද දන්නෙ නෑ නේද කියලා ඇහැව්වා. එතකොට භාග්‍යවතුන් වහන්සේ වදාළා මහණෙනි, සුප්පබුද්ද උපන්නේ තව්තිසාවේ. සක්දෙවිඳුගේ ලෝකයේ. එතකොට භික්ෂූණ් වහන්සේලාට අදහගන්න බෑ මේ ජීවිතේ දානයක් දීලා පිනක් කරගන්න බැරිවෙච්ච කෙනෙක් මේ. අනුන්ගෙන් අතපාගෙන හිටපු කෙනෙක්. මේ ජීවිතේ යම් අයුරකින් දානයක් මානයක් පූජා කරලා ජීවිතය සැපවත් කරන පිනක් කරගන්න බැරිවෙච්චි කෙනෙක් කොහොමද සුගතියේ ගියෙ. අන්න මේ වෙලාවේ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, සුප්පබුද්දට තිබුනා ශ්‍රද්ධා ධනය. මේ ලෝකෙ කොච්චර

වතුපිටි තිබුනත්, මරණින් මත්තෙ සුගතියේ යන්න බෑ. බැංකු පොත් වල කොච්චර සල්ලි තිබුනත් මරණින් මත්තෙ සුගතියේ යන්නෙ නෑ, අපිට කොච්චර ඥාතියො හිටියත් මරණින් මත්තෙ ඒ ධනයෙන් ඒ වස්තුවෙන් ඒ බලයෙන් අපිට සුගතියකට යන්න බෑ හැබැයි ශ්‍රද්ධාව තිබ්බොත්. ශ්‍රද්ධාවේ තියෙන කෙනාට සුගති රැකවරණය ලැබෙනවා. යේ කේචි බුද්ධං සරණං ගතාසේ - යම් කෙනෙක් බුදුරදුන් සරණ ගියේ වේ නම්, තේ ගමිස්සන්ති අපායං - ඔවුන් අපායේ යන්නේ නැත. පහාය මානුසං දේවං දේවකායං පරිපූරෙස්සන්ති - මනුස්ස ජීවිතය අත්හරිනා කල්හි ඔවුන් දෙව්ලොව උපදින්නේය, අන්න ඒ නිසා. වඩාත්ම වටින ධනය මොකක්ද? කිසිවෙකුටත් නැසිය නොහැකි ශ්‍රද්ධා ධනය. දෙවෙනි ධනය - සීල ධනං - සිල්වත් බවයි. ප්‍රාණඝාත නොකිරීමෙන් උපයන ධනය, මම ප්‍රිණඝාත නොකරමන්නමයි කියලා සීලයක් සමාදන් වෙලා ආරක්ෂා කරනකොට සීල ධනය තමන්ගේ ජීවිතයට එකතු වෙනවා. මම නම් හොරකම් කරන්නෙ නෑ කියලා සීලයක් සමාදන් වෙලා රකිනකොට සීල ධනය ජීවිතයට එකතු වෙනවා. මම නම් සල්ලාලකම් කරන්නෑ කියලා සිල් සමාදන් වෙලා සීලය රැකෙනකොට සීල ධනය ජීවිතයට එකතුවෙනවා. මම නම් බොරුවෙන් වළකිනවා කියලා ඒ සීලය රකිනකොට සීල ධනය එකතු වෙනවා. මම නම් මත්පැන් මත්ද්‍රව්‍ය පාවිච්චි කරන්නෙ නෑ කියලා සිල් පදය සමාදන් වෙලා ඒක රකිනකොට සීල ධනය එකතු වෙනවා. ඒ සීල ධනයට පුලුවන් ජීවිතයට හැබෑමටම සැප ලබාදෙන්න. දැන් අපි ගත්තොත් චත්ථමානවක, චත්ථමානවක කියන්නෙ අවුරුදු 16 ක තරුණයා, තක්ෂසිලාවේ ශිල්ප ශාස්ත්‍ර අවසන් කරලා ගුරුවරයාට ගුරුපඬුරු අරගෙන යමින් හිටියා. ගුරුපඬුරු අරගෙන යන ගමනේදී බුදුරජාණන් වහන්සේව අතරමගදි මුණගැහුනා. බුදුරජාණන් වහන්සේ ඡත්තමානවකට ධනයන් දෙකක් ලබාදුන්නා. ශ්‍රද්ධා ධනයත් ලබාදුන්නා. සීල ධනයත් ලබාදුන්නාත බුදුරජාණන් වහන්සේ වදාළා ඡත්ත ඔයා මේ මොහොතේ පටන් තෙරුවන් සරණ යන්න. ඉතින් ඡත්තමානවක සරණ ගියා. බුද්ධං සරණං ගච්ඡාමි කියලා සරණ ගියා. ධම්මං සරණං ගච්ඡාමි කියලා සරණ ගියා. සංඝං සරණං ගච්ඡාමි කියලා සරණ ගියා. තෙරුවන් සරණ ගියා. ශ්‍රද්ධාව + ඊළඟට ඡත්ත ඔයා හොඳට සිල්වත් වෙන්න කිව්වා. එතකොට ඡත්ත මානවක පන්සිල් සමාදන් වුනා. සීල ධනය. තෙරුවන් සරණේ පිහිටලා සිල් සමාදන් වෙලා පැය භාගයක් වගේ පොඩි වෙලාවෙක් ඇතුලේ ඡත්තමානවක හොරු ගැහුවා. ඡත්තමානවක මියපරලොව ගියා. ඡත්තමානවක දේව පුත්‍රයා වෙලා තව්තිසාවේ උපන්නා. පින්වතුනි ගොඩාක්

සල්ලි තිබුනා කියලා ඒ ගොඩාක් තියෙන ධනයට පුලුවන්ද, අපි මෙහෙම සුගතියක දාන්න. පුලුවන් කම ක් නෑ, හැබැයි ශ්‍රද්ධාව තිබූ නිසා සිල්වත් බව තිබූ නිසා ඡත්තමානවක සුගතියේ උපන්නා. එහෙනම් ධනය විදියට අපි එකතු කරගත යුතු හැබෑම ජනය කුමක්ද? සීළ ධනය, සිල්වත් බව. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා හිරි ධනං - පව් කරන්න ලැජ්ජාව නම් වූ ධනය. යම් කෙනෙකේ ජීවිතේ උපදවාගත යුතු, බලවත් කරගත යුතු ධනයක්, හිරි ධනය. කයින් වැරදි කරන්න ලැජ්ජාව. වචනයෙන් වැරදි කරන්න ලැජ්ජාව, මනසින් වැරදි කරන්න ලැජ්ජාව, නොයෙක් පාපකර්ම කරන්න ලැජ්ජාව. ඉතින් මේකට කියනවා හිරි. ඊළඟට ධනය ඔත්තප්ප ධනං. ඔත්තප්ප කියලා කිව්වෙ කයින් වැරදි කරන්න තියෙන භය. වචනයෙන් වැරදි කරන්න තියෙන භය. සිතින් වැරදි කරන්න තියෙන භය. නොයෙක් පාපී අකුසල් කරන්න තියෙන භය. කෙනෙකුට ඔන්න ඔය ලැජ්ජා භය කියන දෙක තියෙනවා නම් ඒ කෙනාගේ ජීවිතයට ඒක රැකවරණයක්මයි, නුවණැත්තෝ එය හිරිඔතප් කියන එකට කිව්වෙ දේවධර්මය කියලා. දේවධර්මය කියලා හඳුන්වලු ගුණ. හිරිඔතප්. බොහෝ දෙනෙකුගේ තියෙන්නෙ පින්වතුනේ සිත කය වචනයෙන් වැරදි කරන්න ලැජ්ජාවක් බයක් නෙවෙයි. කරපු වැරදි අහුවෙනවාට ලැජ්ජාවක් බයක්. වැරදි කරලා වැරදි අහුවෙනවාට ලැජ්ජයි, වැරදි අහුවෙනවාට බයයි. ඒක වැඩක් නෑ. අපිට මේ ජීවිතේ නම් පුල්වන් වෙයි හැංගි හැංගි වැරදි කරන්න. අනිත් මිනිස්සුන්ට අහුවෙන්නෙ නැතිව, හැංගි හැංගි වැරදි කරන්න පුලුවන් මේ ජීවිතේ නම්. හැබැයි ්එවගේ විපාක, අපි වැරදි කලා කියන එක මුළු ලෝකෙම දන්නෙ නැතත් අපි දන්නවානෙ. ඒ විපාකයෙන් අපිට බේරිල්ලක් නෑ. අන්න ඒ නිසා උපදවාගත යුතු ධනය කියනවා, පවට ලැජ්ජාව නම් වූ ධනය. උපදවා ගත යුතු ධනයක් කියනවා පවට භය නම් වූ ධනය. දැන් ධනයන් හතරයි. ඊළඟට භාග්‍යවතුන් වහන්සේ වදාළා සුත ධනං, ශ්‍රැතය නම් වූ ධනය, බුදු කෙනෙකුගේ ධර්මය දන්නා බව. ඒකට තමයි කියන්නෙ ශ්‍රැතය, දහම්දැනුම. දහම් දැනුම කියලා කියන්නෙ ධනයක්. දහම් දැනුම කියන ධනය තමන්ගේ ජීවිතයට එකතු කරගන්න නම් පින්වතුනේ මේ යුගය අපි මේ මනුස්ස ජීවිතේ ලැබූ මේ යුගය, හොඳම යුගයක්. අපිට කරුණාවෙන් අනුකම්පාවෙන් බුදුරජාණන් වහන්සේගේ නිර්මල ධර්මය ඉතාම පැහැදිලිව සරලව තේරෙන භාෂාවෙන් කියාදෙන කල්‍යාණමිත්‍ර ගුණය මුණ ගැහුනානෙ. මේක සුලුපටු එකක් නෙවෙයි. අපිට මේ ජීවිතයේ හොඳට පුලුවන් ශ්‍රැත ධනය එකතු කරගන්න. ශ්‍රැත ධනය කියලා කියන්නෙ ජීවිතය ආරක්ෂා කරන එකක්. ඒ නිසා දහම් දැනුමක් හදාගන්න

මහන්සි වෙන්න. මේ මනුස්ස ජීවිතේ අවසන් වෙන්න මත්තෙන්. හේතුව පින්වතුනි අපි මේ සංසාර දුක සහමුලින්ම නසනවා නම්, මේ සංසාර දුකින් අපි නිදහස් වෙනවා නම් නිදහස් වෙන්න තියෙන්නේම බුදු කෙනෙකුගේ ධර්මය අවබෝධ කරගෙනනෙ. වෙන පිළිවෙලක් නෑ, බුදුරජාණන් වහන්සේගේ ධර්මයෙන්මයි සසර මග නසන්න වෙන්නෙ. ඒ ධර්මය, ඒ භාග්‍යවතුන් වහන්සේගේ ධර්මය අපි මනා දහම් දැනුමක් විදියට එකතු කරගන්නවා කියන්නෙ ඒක අපේ ජීවිතයට රැකවරණයක්. සෝතානුදත සූත්‍රයේදී බුදුරජාණන් වහන්සේ දේශනා කලා, යම්කිසි ශ්‍රාවකයෙක් බුදුරජාණන් වහන්සේගේ ධර්මය සුතා - හොඳට අහනවා නම්, දතා - අහන ධර්මය හොඳට මතක තියාගන්නවා නම්, වචසා පරිචිතා - ඒ මතක තියාගත්ත දේ වචනයෙන් පුරුදු කරනවා නම් මනසානුපික්ඛිතා - මනසින් සිහි කරනවා නම්, දිට්ඨියා සුප්පටිවිද්දා - ධර්මයට අනුකූලව ජීවිතයේ දැක්ම හදාගන්නවා නම් අන්න ඒ කෙනාට ආනිසංස ලැබෙනවා. ඒ ආනිසංසය තමයි එයා ගොඩාක් නුවණැති කෙනෙක් නම් මේ ජීවිතේම මාර්ගඵල උපදිනවා. අපි හිතමු එයා එච්චර නුවණ තීව්‍ර කෙනෙක් නෙවෙයි කියලා, ඒ කෙනා මරණින් මත්තෙ දෙවියන් අතර උපදිනවා. දෙවියන් අතරේ උපන්නාට පස්සෙ දෙවිවරු අතරේත් වරදින්න පුලුවන් පසුබිමක් තියෙනවා. දෙවිවරු අතරේ ඉන්න බාල දෙවිවරු ඇසුරු කරන්න ලැබුනොත්. දෙවියෝ අතරට ගියත් එහේ ගිහිල්ලා ඇසුරු කරන්නෙ බාල පහේ දෙවිවරු නම් ධර්මයක් දන්නේ නැති දෙවිවරු නම් නොමග යන දෙවිවරු නම් වරදිනවා. ඒක තේරුම් ගන්න පුලුවන්නෙ, දැන් මේ මනුස්ස ලෝකය කියලා කියන්නෙ ධර්මය ඇසෙන්න පුලුවන් තැනනෙ. ධර්මයේ හැසිරෙන්න අවකාශ තියෙන තැන තමයි මනුස්ස ලෝකය. දැන් අපි ඉන්නෙ මනුස්ස ලෝකෙ. මේ මනුස්ස ලෝකෙ ඇතුලේ අසත්පුරුෂයෙක් ඇසුරු කලොත් අපිට වරදින්නෙ නැත්ද? වරදිනවා. මේ මනුස්ස ලෝකෙ ඇවිල්ලා බාලයෙක් පාපයෙක් ඇසුරු කලොත් එහෙම අපිට වරදින් නැද්ද, වරදිනවා. ඉතින් දෙව්ලොවත් එහෙම තමයි. දෙව්ලොවට ගිහිල්ලාත් එහෙ ඇසුරු කරන්නේ ලාමක චරිතයක් නම් වරදිනවාමයි. හැබැයි යම් කිසි කෙනෙක් මේ මනුස්ස ලෝකෙ ගතකරද්දි මනුස්ස ලෝකය තුළ හොඳ දහම් දැනුමක් හදාගෙන හිටියොත් එයාට ආනිසංසයක් ලැබෙනවා කියනවා දෙව්ලොව උපදිද්දි ඒ දෙව්ලොව තමන්ටම ධර්මය සිහි වෙනවා. දෙව්ලොව උපදිනකොට තමන්ව රැකීම පිණිස තමන්ටම ධර්මය සිහි වෙනවා. ඒක තමයි කියනවා පළවෙනි ආනිසංසය. හදිසියේ හරි තමන්ට ධර්මය සිහිපත් කරගන්න බැරිව ගියොත්

මෙහෙම ආනිසංසයක් තියෙනවා කියනවා. තවත් ධර්මයේ හැසිරිච්චි දෙවිවරු මුණගැහිලා ඒ අය දහම් කතා කරනකොට ඒ අයගේ දහම් කතාව වැටහෙනවා. හරියට බෙර හඬ අහලා තිබ්බ මනුස්සයෙක් කැලේක අතරමං වෙලා ඉද්දි බෙර හඬක්ම ඇහෙනකොට, බෙර ගහපු මනුස්සයෙක් ඉන්නවා, මිනිහා කැලේක අතරමං වෙනවා. ඒ මනුස්සයාට ඇහෙනවා ඈතක බෙර ගහන හඬ. එතකොට ඒ මනුස්සයාට ඒක ආගන්තුක හඬක් ද, නෑ, ඒ මනුස්සයාට තේරෙනවා මේ බෙර හඬයි. සක් පිඹින හඬ අහලා තිබ්බ මනුස්සයෙකුට ඈත සංඛයක් පිඹිනවා ඇහෙනකොට එයාට අඳුරගන්න පුලුවන්, ආ මේ සංඛ නාදය. අන්න ඒ වගේ තමන් ඉගෙන ගත්ත දරාගත්ත වචනයෙන් පුරුදු කරපු, හිතින් මෙනෙහි කරපු ධර්මය එයාට දෙව්ලොවදි අහන්න ලැබෙනකොට එයාට ධර්මය ආගන්තුක නෑ. ඒ කියන්නෙ ආයෙ ධර්මයේ හැසිරෙන්න අවකාශ තියෙනවා. ඒ නිසා පින්වතුනේ අපි එකතු කරගත යුතු ධනයන් අතරේ බොහෝම වටින ධනයක් ශ්‍රැත ධනය. ශ්‍රැත ධනය එකතු කරගැනීම පිණිස ශ්‍රැත ධනයෙන් බලවත් වීම පිණිස මේ කාලෙ වඩාත් සුදුසුයි. ඒ නිසා ඔබ මහන්සි වෙන්න, මහන්සි වෙන්න මේ මනුස්ස ජීවිතේ වේගයෙන් ගෙවී යද්දි තමන්ට අවකාශය හදාගෙන ශ්‍රැත ධනය බලවත් කරගන්න. ඒ උදෙසා තමයි අපේ ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ විශාල කැපකිරීමක් කරලා, බුදුරජාණන් වහන්සේගේ නිර්මල භාෂිතය හැමදෙනාට ඉගෙන ගන්න පුලුවන් විදියට පරිවර්තනය කලේ. ඔබට පුලුවන් මූලික සූත්‍ර දේශනා ඔක්කොම කියවගන්න. ඒ කියවගැනීම පිණිස දහම් පොත පත අරගන්න අවකාශය හදලා තියෙනවා. ඊළඟට අන්තර්ජාල පහසුකම ඔස්සේ මහමෙව්නාවේ සූත්‍ර පිටක වෙබ් අඩවියෙන් ඔබට ඉගෙන ගන්න අවකාශය තියෙනවා. ශ්‍රැත ධනය හොඳට හදාගන්න. ශ්‍රැත ධනයෙන් බලවත් වෙන්න ඕන. ඒක ආර්ය ධනයක්. ඊළඟට භාග්‍යවතුන් වහන්සේ වදාළා, ත්‍යාග දනං, ත්‍යාගය නම් වූ ධනය. ත්‍යාගය කියලා කිව්වෙ දන්දීම. දන්දීම ධනයක්. බලන්න ඒකෙ ලස්සන. මේ ධනය ගැන අපිට අහන්න ලැබෙන්නෙ බුද්ධ ශාසනයේ විතරනෙ. දන්දීමත් ධනයක්. දැන් අපිට හිතෙන්නෙ දන් දෙනකොට දන්දෙද්දි දෙද්දි තියෙන ධනයඅහිමි වෙනවා කියලානේ. සාමාන්‍යයෙන් බැලුවොත් වෙන්නෙ එහෙමනෙ. දන්දෙනකොට තියෙන සල්ලි අහිමි වන්නේය. දන්දෙනකොට තියෙන භෝග සම්පත් අහිමි වන්නේය, එහෙමනෙ පේන්නෙ. නමුත් දානය කියන්නෙ ධනයක්. ඒක ආර්ය ධනයක්. සාමාන්‍ය සල්ලි කියලා කියන්නෙ ආර්ය ධන නොවේ. සාමාන්‍ය ධන දේපොළ සම්පත් කියලා කියන්නෙ ආර්ය ධනය නොවේ. හැබැයි ත්‍යාග ධනය

කියලා කියන්නෙ ආර්ය ධනයක්, අහිමි නොවෙන ධනයක්. ආදි තස්මිං අගාරස්මිං යන්නී හරතී භාජනං - ගෙයක් ගිනිගෙන ඇවිලුනොත් එහෙම නුවණැති මනුස්සයෙක් කරන්නෙ ඒ ගේ ඇතුලට පැනලා වටින පහේ දේවල් එළියට විසික් කරගැනීමයි. තන්තස්ස හෝති අත්තාය නො වායං තත්ත දය්හති - එතකොට ගේ ගිනිගෙන අවසන් වුනාට පස්සෙ එළියට විසික් කරගත්තු දේ තමයි එයාට ප්‍රයෝජනවත් වෙන්නෙ ඇවිලිච්චි දේ හිතුවට පලක් නෑ. ඒවං ආදි හිතො ලෝකො ජරාය මරණෙ නච - ඔන්න ඔය වගේ මේ මනුස්ස ලෝකෙ උපදින මිනිස්සුන්ගේ ජීවිතේ ජරා මරණ වලින් හැමතිස්සෙම ගිනිගන්නේය. නීහරේ තේව දානෙන දින්නං හොති සුනීහතං - එකල්හි නුවණැති මනුස්සයා කුමක්ද කළ යුත්තේ, දන්පැන් පූජා කල යුත්තේය. දන් පැන් පූජා කිරීම දානයෙන් බැහැර කිරීම යනු මනාකොට කරන ලද බැහැර කිරීමයි. දින්නං හොති සුනීහතං - දීපු දේ මනාකොට බැහැර කලා, හරියට ගිනිගන්න ගෙදරින් වස්තුවක් එළියට විසික් කලා වගේ. බුදුරජාණන් වහන්සේ දේශනා කරපු ඔන්න ඔය පරියාය නිසා බුදු කෙනෙකුගේ බණ පදයට සැදැහැ සිත් තියෙන මිනිස්සු දන් පූජා කලා, දානය පූජා කරමින් ත්‍යාග ධනය එකතු කලා. ඒ දේශනාවේ දානය ගැන හරී ලස්සනට සඳහන් වෙනවා, දින්නං සුඛ පලං හොති, දන්දීමෙන් සැප ලැබේ. නාදින්නං හොති තං තථා - දන් නොදී ඉඳලා දානයෙන් ලැබෙන සැපය නම් කවදාවත් ලැබිය නොහැක්කේය. ඉතින් ඒක තමයි දානය. ත්‍යාග ධනය. අවසානෙට බුදුරජාණන් වහන්සේ දේශනා කලා පඤ්ඤා ධනං. ප්‍රඥාව නම් වූ ධනය. ධනයන් අතරේ තියෙන ප්‍රබලම ධනය, ප්‍රඥා ධනය. ප්‍රඥා ධනය කොහොමද උපදින්නෙ. ප්‍රඥා ධනය උපදින්නේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය නුවණින් කල්පනා කිරීමෙන්. බුදුරජාණන් වහන්සේගේ ධර්මය නුවණින් කල්පනා කිරීමේන විතරමයි ප්‍රඥා ධනය උපදින්නෙ. ඒක හොඳට මතක තියාගන්න. යම් ඒ ප්‍රඥාවක් ඇත්ද ජීවිතේ සැපය පිණිස හේතුවෙන පින්වතුනේ බුදුරජුන්ගේ ධර්මය නුවණින් කල්පනා කිරීමෙන් පමණමයි ඒ ධනය අපිට උපදවගන්න ලැබෙන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ උග්ග කියන සිටුවරයාට ඔය ධනයන් ගැන කතාව කියලා භාග්‍යවතුන් වහන්සේ ගාථා ටිකකුත් කියලා දුන්නා. සද්ධා ධනං සීල ධනං හිරිඔත්තප්පියං ධනං සුත ධනේන චාගේන පඤ්ඤාවේ සත්තමං ධනං - ශ්‍රද්ධාව ද ධනයකි, සීලයද ධනයකි, පවට ලැජ්ජාව ද ධනයකි, පවට බය ද ධනයකි, දහම් දැනුමද ධනයකි, ත්‍යාගය ද ධනයකි, ප්‍රඥාව යනු ධනයන් අතර සත්වෙනා ධනයයි. යස්ස ඒතේ ධනං අත්ථී ඉත්ථියා පුරිසස්සවා ඒසො

මහද්ධනො ලෝකෙ අජෙයයා දේවමානුසෙ - යම් ස්ත්‍රියකට වෙන්න පුලුවන්, යම් පුරුෂයෙකුට වෙන්න පුලුවන් ධනය විදියට තියෙන්නෙ ඔන්න ඔය ධනයන් නම් ඒ කෙනාට තමයි මේ ලෝකයේ කියන්නෙ ධනවතා කියලා. ඒ කෙනාව මේ දෙව්මිනිසුන් අතරේ පරදවන්න බෑ, ඔහුගේ ධනය නොපැරදවිය හැකි ධනයකි. තස්මා සද්ධං ච සීලං ච පසාදං ධම්ම දස්සනං අනුයුඤ්ජෙත මේධාවී සරං බුද්ධානසාසනං - භාග්‍යවතුන් වහන්සේ වදාළා ඔන්න ඔය කාරණය නිසා නුවණැත්තෙක් ශ්‍රද්ධාවත් සීලයත් සංඝයා කෙරෙහිත් ප්‍රසාදයත් කියන කාරණා මුල් කරගෙන බුද්ධ ශාසනය සිහි කර කර ධර්මයේ හැසිරෙන එකමයි කියනවා කරන්නෙ. ඒ කෙනා මූලික කරගන්නෙ ධර්මයේ හැසිරීමමයි. ඇයි හේතුව එතනින් තමයි අහිමි නොවෙනා ධනයක් ජීවිතයට උපදින්නෙ. ඉතින් බලන්න මහා ධන සම්පත් තිබුනු ඒ කුමාරිකාවගේ නම මොකක්ද, අනූපමා. අනූපමා කුමාරි මහත් ධන සම්පත් තියෙද්දිත් මේ ලෝකයේ ඒ නිසරු ධනයට වඩා අතිශයින්ම ශ්‍රේෂ්ට වූ ආර්ය ධනයන්ට හිමිකාරකම් කියන්න වාසනාව ලැබුවා. පින්වතුනි එහෙම කල්පනා කරද්දි තමයි පිනකින් ලබාදෙන සැපය ගැන අපිට තේරෙන්නෙ, මොකද අපි මේ මනුස්ස ලෝකෙ උපදිනකොට අපේ ජීවිත ගත්තොත් එහෙම අපිට මහා ධනවත් රටවල් වල උපදින්න ලැබුන් නෑ, ලෝකයේ දියුණු රටවල් වල උපදින්න ලැබුන් නෑ. අපි උපන්න රටේ එහෙම මහා දියුණුවක් නෑ. හැබැයි අපි උපන්න රටේ බුදුරජුන්ගේ සරණ, ධර්මයේ සරණ, සඟරුවනේ සරණ කියලා තෙරුවන් සරණක් තියෙනවා. ඒ තෙරුවන් සරණ ඇතුලේ ශ්‍රද්ධා ධනය, සීල ධනය, හිරි ධනය, ඔත්තප්ප ධනය, සුත ධනය, චාග ධනය, පඤ්ඤා ධනය කියන ආර්ය ධන හතම තියෙනවා. එතකොට ඔබට හිතෙන්නේ මනුස්සයෙක් විදියට මනුස්ස ලෝකෙට එනකොට ගොඩාක් සල්ලි ලැබෙන එකද ලොකු පින, ආර්ය ධනයට හිමිකාරකම් ලබන්න අවස්ථාව ලැබෙන එකද? ආර්ය ධනයට හිමිකාරකම් කියන්නට යම් අවස්ථාවක් ලැබෙනවා නම් ඒකමයි පින. ඒකමයි පින. ඒකට දැන් අවස්ථාව ලැබිලා තියෙනවා, ඉතින් මේ ලැබිච්ච අවස්ථාවේ ආර්ය ධනයන්ට හිමිකාරයො බවට පත්වුනොත් මේ දෙව් මිනිස් ලෝකයේ පරදවන්න බැරි ධනයකට හිමිකාරයො බවට ඔබත් පත්වේවි. ඒ ධනයෙන් තමයි ජීවිතයක් පරිපූර්ණ වශයෙන් සැපයට පත් කරන්නෙ. බුදුරජාණන් වහන්සේ සමීපයට පැමිණි අනූපමාව ආර්ය ධනයට හිමිකාරියක් බවට පත්වුනා. සො මෙ ධම්මමදෙ සේසි අනුකම්පාය ගෝතමො - ගෞතම බුදුරජාණන් වහන්සේ මං ගැන ගොඩාක් අනුකම්පා කලා. මට ධර්මය දේශනා කලා. නිසින්නා ආසනේ තස්මිං ඵුස්සෙයිං තතීයං ඵලං - ඒ

බුදුරජාණන් වහන්සේගෙ බණ පද අහගෙන ඉන්නකොට ඈ ධනයන්ට හිමිකාරියක් බවට පත්වුනා. ශ්‍රද්ධා, සීල, හිරිඔතප්, සුත, ත්‍යාග, ප්‍රඥා කියන ධන ඇගේ ජීවිතය තුළ උපන්නා. වේගයෙන් ඒ ධනය උපන්නා. ඒ උපදින ධනය වේගයෙන් ඇගේ ජීවිතය සැපයට පත්කලා, හරි ආශ්චර්යයියි. ඒ ආසනයේදීම ඇය අනාගාමී ඵලයට පත්වුනා. බුදුරජාණන් වහන්සේගේ පළමු දම් දෙසුමෙන්ම අනාගාමී ඵලය සාක්ෂාත් කලා. තතො කේසාමිච්ඡ ත්වාන පබ්බජිං අනගාරියං අජමෙ සත්තමෙ රත්ති යතො තණ්හා විසොසිතා - ඊටපස්සෙ මං කෙස් මුඩු කරගෙන සසුන් ගත වුනා. තෘෂ්ණාව නැති කරලා දාලා අදට දින හතක් වෙනවා. පළවෙනි බණ පදයෙන්ම ඒ මහා පින්වන්ත අනූපමා කියන කාන්තාව අනාගාමී ශ්‍රාවිකාවක් බවට පත්වුනා. බුද්ධ ශාසනයේ පැවිදි වෙලා දවස් හතක් ඇතුලත සියලු කෙලෙස් නැසූ රහත් තෙරණින් වහන්සේ නමක් බවට පත්වුනා, අනූපමා අර්හත් තෙරණිය. ඉතින් මේ අනූපමා අර්හත් තෙරණිය තමන්ගේ ජීවිතයේ ඒ සැපය උදාකරගත්තෙ බුද්ධශාසනයක් තුළ උපදවාගත්ත ආර්ය ධනයන් නිසා. ඒ නිසා පින්වතුනේ කලාතුරකින් ලෝකයට පහළ වෙන බුදු සසුන මුණගැහිච්ච මොහොතේ අපි හොඳට නුවණින් කල්පනා කලොත්, මේ ජීවිතයේ අපි සැපයක් කියලා එකතු කරගත්ත හැමදේම තියෙන්නෙ අහිමිවීමක්. නුවණින් හිතුවොත් අපිට ඒක තේරෙනවා. අපි සැපයක් විදියට යම් දෙයක් මේ ලෝකෙ එකතු කරගත්තාද, ඒ එකතු කරගන්න හැමදේම තියෙන්නෙ අහිමි වීමක්. අපි සල්ලි හොයනවා අහිමි වෙන මුදල්. අපි දේපොළ සම්පත් එකතු කරගන්නවා, අහිමි වෙන දේපල. අපිට ඥාති සමූහයා එකතු වෙනවා අහිමි වෙන ඥාතීන්, අහිමි වෙන මිත්‍රයො, අහිමි වෙන ආදරවන්තයො. අපි සෙනෙහසින් බැඳෙන හැමදේම අහිමි වෙන දේවල්. අපි ගේදොරට බැඳෙනවා. අහිමි වෙන ගෙවල්. අපි යාන වාහන වලට බැඳෙනවා අහිමි වෙන යානවාහන. අපි ආභරණ වලට බැඳෙනවා අහිමි වෙන ආභරණ. ඉතින් මෙහෙම ගත්තහම මේ ඔක්කොම අහිමි වෙන ඒවා. ඊළඟට මෙහෙම හිතමු අපි අපිටම බැඳෙනවා. අපි අපි ගැනම මං ලස්සනයි, මං හරි හැඩයි, අපි එහෙම බැඳෙනවා. එක්කො මං හරි උගතා, මං හරිම දක්ෂයා අපි එක්කො එහෙම බැඳෙනවා. එහෙම අපිව බැඳෙන අපිවත් අපිට අහිමි වෙමින් පවතිනවා. රූපෙ ගොඩාක් ලස්සනයි කියලා හිතාගෙන ඉන්න කෙනෙක් අනුක්‍රමිකව නාකි වෙනකොට එයාගෙ ඇස් පනාපිටම එයාගේ රූපය අහිමි වෙන්නැද්ද. අහිමි වෙනවා. ඔක්කොම අහිමි වීමට අයිතියි. ඊළඟට ජීවත් වෙන්න තියෙන කාල වකවානුව අහිමි වෙමින් පවතිනවා. අහිමි වෙමින් පවතින ලෝකයේ අපි හැබෑ

දේකට හිමිකාරයො වෙනවා නම් ඒ හිමිකාරයො බවට පත්වෙන්න අවස්ථාව ලැබෙන්නෙ, හැබැම හිමිකාරකමකට අවස්ථාව ලැබෙන්නෙ බුද්ධ ශාසනයක් ඇතුලේ. ඒ නිසා හොඳට සරණට පැමිණෙන්න. සරණට පැමිණිලා කිසි කෙනෙකුට පැහැර ගත නොහැකි ධනයක් තමන්ගෙ ජීවිතයට එකතු කරගන්න. ඒ ධනය තමයි ශ්‍රද්ධා ධනය. සිල්වත් බව නම් වූ ධනය. ඊළඟට හිරිඔතප් කියන ධන දෙක. දහම් දැනුම නම් වූ ධනය, තමන්ට හැකි පමණින් ශක්ති පමණින් දන්පැන් පූජා කොට දානයෙන් රැස් කරන ධනය. බුදු කෙනෙක්ගේ දහම් පදය නුවණින් විමසලා ඒ නුවණින් විමසීම හේතුකරගෙන ඇති කරගන්න ප්‍රඥා ධනය. ඔන්න ඔය ධනයන්ට හිමිකාරයෙක් බවට පත්වෙන්න. ඔය ධනයන්ට හිමිකාරයො බවට පත්වුනොත් ඔය ධනය අහිමි වෙන් නෑ. ඔය ධනය ඔබව රකිනවා. ඔය ධනය හෙවණැල්ල වගේ අපි පසුපස්සේ පැමිණෙනවා. අහිමි නොවෙනා ධනයක්. අහිමි නොවෙනා ධනයක්. අන්න ඒ ධනයට හිමිකාරයො බවට පත්වෙන්න අපිට හොඳටම අවස්ථාව ලැබිලා තියෙන්නෙ ජීවිතේක. තෙරුවන් සරණ මුණගැහිච්ච කල්‍යාණමිත්‍රයො මුණගැහිච්ච ජීවිතයක ඒ ධනයට හිමිකාරයො බවට පත්වෙන්න අපි අදක්ෂ වුනොත් ඒක නම් මහාම මහා අවාසනාවක්. මහාම මහා කාලකණ්ණිකමක්. ඒ නිසා පින්වතුන්ලා අද මේ ඉගෙන ගත්ත බණ පදය හොඳට හිතේ ධාරණය කරගෙන අධිෂ්ටානයක් ඇති කරගන්න අපිත් මේ බුද්ධ ශාසනය ඇතුලේ ආර්ය ධනයන්ට හිමිකාරයො බවට පත්වෙනවා කියන අධිෂ්ටානය. ඉතින් අනුපමා කියන රහත් තෙරණියගේ චරිතාපදානය අපි අද ඉගෙන ගත්තා. ඒ රහත් තෙරණියටත් නමස්කාර කරමින් අපි අධිෂ්ටාන කරගනිමු බුද්ධ ශාසනය මුණගැහිච්ච මේ ජීවිතේ අපිටත් ඒ ආර්ය ධනයන්ට හිමිකාරයන් බවට පත්වෙලා ගුණධර්මයන්ගෙන් ජීවිතය පෝෂණය කරගෙන සම්බුද්ධ ශාසනයේ පිළිසරණ ලබාගන්න වාසනාව ලැබෙන්වා. රහතන් වහන්සේලා සැනසුනු, රහත් තෙරණින් වහන්සේලා සැනසුනු නිවනේ අපිටත් සැනසෙන්න ලැබේවා, සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අනුමෝදන් කරමු අපි සියලු දෙවිවරුන්ට, සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරු, සෙන්පති දෙවිවරු ප්‍රධාන සියලු දෙවියෝ සතුටින් පින් අනුමෝදන් වෙත්වා, පින් අනුමෝදන් වන දෙවිවරු දිව්‍ය සැපයෙන් දිව්‍ය ආශ්චර්යයෙන් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ රැකවරණය අපි හැමදෙනාට දෙවියෝ සලසා දෙත්වා. දෙවියෝද සංසාර දුකින් අතමිදේවා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලුම පුණ්‍ය ධර්මයන් ගුරුදේවෝත්තම කළ්‍යාණමිත්‍ර

පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව, නිරෝගීව දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා, මේ ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද දවසේ මේ ධර්ම දානමය පින්කම සිදු කරන මේ සුපින්වතුන්ලාගේ නමින් මීට මාස දෙකකට පෙර මියපරලොව යන්න යෙදුනු පින්වත් සංඛ මුණසිංහ සොහොයුරාට, මීට වසර විස්සකට පෙර මියපරලොව යන්න යෙදුනු පින්වත් පී.ජී. කුසුමදාස පියාණන්ට මේ සියලු පින් අනුමෝදන් වෙලා ඒ වගේම අනන්ත සසර පුරාවටම මියපරලොව ගිය සියලු ඥාතීන්ට පින් අනුමෝදන් වෙලා, ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා. අපගේ ඥාතීන්ට මේ දුක් සහිත වූ සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙන්න වාසනාව ලැබෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදනා සිද්ධ කරන්න. සුජීවත්ව සිටින මාර්තු මාසෙ 15 වන දින ජන්ම දිනය සැමරූ පින්වත් ඩබ්ලිව්.ඩබ්ලිව්. ප්‍රේමවර්ධන පියාණන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ජූලි මාසෙ 14 වන දින ජන්ම දිනය සමරන පින්වත් බී.ඩබ්ලිව්. ඉන්ද්‍රාවතී මෑණියන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ඒ ජන්ම දිනයන් සමරන පියාණන්ටත් මෑණියන්ටත් නිදුක් නිරෝග සුව දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා, විශේෂයෙන් මොළයේ ශල්‍යකර්මයක් සිදුකිරීමට අපේක්ෂාවෙන් සිටින පින්වත් බී.කේ. මෙරිල් ධර්මසේන පියාණන්ට ඒ සැත්කමේ කටයුතු කිසීම කරදරයකින් බාධාවකින් තොරව සිදුකරගන්න ලැබේවා, නිදුක් නිරෝග සුවය පිණිසම මේ සියලු පින් හේතුවාසනා වෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. මේ වෙනකොට අසනීප තත්වයෙන් පසුවෙන රවීන්ද්‍ර ධර්මප්‍රිය පියාණන්ට, පබාවතී මෑණියන්ට මේ සියලු පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදයත්, රත්නත්‍රයේ ආශිර්වාදයත්, සියලු දෙවියන්ගේ ආශිර්වාදයත් සැලසිලා ඉතා ඉක්මණින්ම නිදුක් නිරෝගී සුව සැලසේවා කියන ප්‍රාර්ථනාවෙන් අපි පින් අනුමෝදන් කරමු. ඒ වගේම දායකත්වය දැරූ සුපින්වත් සැම සියලු දෙනාට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා, අද ධර්ම දානය සිද්ධ කරන්නෙ දම්සක් කළණමිතුරෝ එකමුතුවේ ඒ සාමාජික පින්වතුන්ලා විසින්. පින්වත් සොනාලි, සඳකැළුනි, ලේඛා රවිහංසි, දිනූඛා, සුබෝධ, නිලූකා, චතුරිකා, චමෝදි, නයනා, ලසන්තිකා, සන්ධ්‍යා හසිනි, චාතිනී, දුලීකා, වජිරා, ශ්‍රියානි, ලහිරු, නිලුපුල්, පුබුදුනී මිස්, ලක්ෂිකා, නිෂාදිකා, ප්‍රියානි, නදී, දිලාන්, කල්හාරි, අංජලී, කසුන්, දිලුමි, ජයකි, මධූක, නර්මදා, රනුල්ක, නිමාලි, විශ්වනී සහ ශෂී කියන මේ පින්වතුන්ලා විසින්

ධර්ම දානය සිදු කලා. ඒ පින්වතුන්ලාට දම්සක් කළණමිතුරෝ එකමුතුවේ ඒ සුපින්වතුන්ලාට තමන්ගේ ජීවිතේ මේ විදියට අද ඒකරාශී වෙලා ධර්මදානමය පින සිදු කලා සෙයින් කළයාණමිත්‍රයො විදියට ඒකරාශී වෙලා කලයාණ යහළුවො විදියට එකතු වෙලා මේ දුර්ලභ මනුස්ස ජීවිතේ තවදුරටත් සුවසේ පින් සිද්ධ කරගන්න, දහම් මඟ දියුණු කරගන්න ගුණධර්මයන්ගෙන් පෝෂණය වෙන් අවකාශ සැලසෙත්වා, ඒ හැමදෙනාගේම සුජීවත්ව සිටින ආදරණීය දෙමාපියන්ට පින් අනුමෝදන් වෙලා ඒ දෙමාපියන්ට නිදුක් නිරෝගී සුව දීර්ඝායුෂ සැලසෙත්වා. දායකත්වය දැරූ පින්වතුන්ලාටත්, පවුල් වල සෑම සියලුදෙනාටත් මේ සියලු පින් අනුමෝදන්ව ඒ පින්වතුන්ලා කරන කියන රැකී රක්ෂා ආදිය දූදරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදිය සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වේවා, උතුම් කලයාණමිත්‍ර ඇසුරක් මුණගැහුනු මේ ජීවිතේ සුවසේ පින් පුරාගෙන සුවසේම දහම් මග දියුණු කරගන්න අවකාශ ලැබෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සෑම සියලු දෙනාටත් සුපින්වත් ඔබ හැමදෙනාටත් මේ ගෞතම ශාසනය තුළ සුවසේම ධර්මාවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=w3OHxV8vJ48

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, ඒ අමා නිවන් දුටු රහත් තෙරණිවරු මේ දේශනා මාලාවේ අද දවසේ අපි ඉගෙන ගන්න ධර්මය මේ බුදු සසුනේ භික්ෂුණී සංඝයා බිහිකිරීම පිණිස යම් භික්ෂුණියක් මුල් වුනාද, මේ බුදු සසුනේ භික්ෂුණී සංඝයා අතරේ වැඩිමහල්ම භික්ෂුණිය පැවිදිව බොහෝ කාලයක් ගත කල භික්ෂුණිය, බුද්ධ ශාසනයේ භික්ෂුණී සංඝයා අතරේ අත්දැකීම් බහුලම භික්ෂුණිය, මහා ප්‍රජාපතී ගෞතමී රහත් තෙරණිය. ඒ මහාප්‍රජාපතී ගෞතමී රහත් තෙරණින් වහන්සේ පිරිනිවන් පෑ අවසන් මොහොත ගැනයි අද දවසේ ධර්මය මේ පින්වතුන්ලාට අහන්න ලැබෙන්නෙ. අද මේ ධර්ම දේශනාවට දායකත්වයන් එකතු කරන්නේ ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි ජූලි මාසෙ 4 වන දිනට උපන්දිනය යෙදුනු පින්වත් උදානි වනිගරත්න මහත්මියට සෙත් ප්‍රාර්ථනා කරන අදහසින් ඇයගේ ස්වාමිපුරුෂයා විසින් පින්වතුන්ලා බලාපොරොත්තු වෙන ප්‍රධාන අරමුණ, දෙවෙනි දරුවා බිහි කිරීමට බලාපොරොත්තුවෙන් සිටින ඒ පින්වත් උදානි වනිගරත්න ආදරණීය බිරිඳටත්, කුසේ පිළිසිඳගෙන සිටින පින්වන්ත දරුවාටත් ඒ වගේම ඒ දෙපළගේ ආදරණීය දියණියටත් මේ පිනේ ආශිර්වාදයෙන් තෙරුවන් සරණින් නිදුක් නිරෝග සුවයම සැලසේවා. සියලු ආරක්ෂාව සැලසේවා කියන උතුම් අදහසිනුයි අද දවසේ මේ ධර්ම දේශනාවට දායකත්වයන් දරනු ලබන්නේ. මහාප්‍රජාපතී ගෞතමී රහත් තෙරණින් වහන්සේ පිරිනිවන් පෑ අවසන් මොහොත අපගේ ගුරුදේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ විසින් ඒ උත්තමාවියගේ අපදානය මේ විදියට පරිවර්තනය කරලා තියෙනවා, ප්‍රජාපතී ගෞතමී මහරහත් තෙරණින් වහන්සේ පිරිනිවන් පෑ අවසන් මොහොත නමින්. ඉතින් මා අද මේ ධර්ම දේශනාවට යොදා ගන්නේ ඒ උතුම් පොත් වහන්සේ, මේ පොත් වහන්සේ සම්පූර්ණයෙන්ම අද මේ ධර්ම දේශනාවෙන්, මේ පොත් වහන්සේගේ අන්තර්ගතය සම්පූර්ණයෙන් කියලා දෙන්න අපිට ලැබෙන් නෑ. ඒ නිසා සැදැහැවත් පින්වතුන්ලා මේ පොත් වහන්සේ ඇසුරින් කරන ධර්මය අහලා සිත පහදව ගන්න. ඊටපස්සෙ මේ උත්තමාවියගේ පිරිනිවන් පෑමේ අවසාන මොහොත ප්‍රසාද සංවේගයෙන් යුතුව ඔබට කියවගන්න පුලුවන් මේ පොත් වහන්සේ අරගෙන. මේ පොත් වහන්සේ ආරම්භ වෙන්නෙ මෙන්න මේ විදියට.

යා මහා පඤ්ඤා පුතුපඤ්ඤා භික්ඛුනී නං රතඤ්ඤො සාගෝතමි මහපජාපති මාතචා බුද්ධ සෙට්ඨස්ස සරණං කත්වා භික්ඛුනී සංඝං පරිනිබ්බුතා මහාගෝතමී නමාමි - යම් මහා ස්ථවිරාවක් මහා ප්‍රඥාවෙන් යුක්ත වූවාද පැතිර ගිය පුළුල් ප්‍රඥාවෙන් යුක්ත වූවාද, භික්ෂුණීන් අතර චිරාත් කල් පැවිදිව සිටියාද, ඕතොමෝ ගෝතමී මහාප්‍රජාපතී ය. බුද්ධ ශ්‍රේෂ්ටයන් වහන්සේගේ පුංචි අම්මාය. භික්ෂුණී සංඝයාට සරණක් වී පිරිනිවන් වැඩි මහාගෞතමී තෙරණියට නමස්කාර කරමි. ඒ විදියටයි මේ උතුම් පොත් වහන්සේ ආරම්භ වෙන්නෙ. බලන්න මේ ප්‍රජාපතී ගෞතමී නම් වූ මහරහත් උත්තමාවියගේ පිරිනිවන් පෑමේ කතාව. තුන්ලොව එකලු කල, එකම පහනක් බඳු අනුත්තරෝ පුරිසදම්ම සාරථී වූ අපගේ භාග්‍යවතුන් වහන්සේ එසමයෙහි වැඩම කොට වදාළේ විසාලා මහනුවර කූටාගාර ශාලාවේ තනවන ලද මනරම් ගඳකිලි ශාලාවේ. ඔය කාලයේ අපගේ භාග්‍යවතුන් වහන්සේගේ සුළු මව හෙවත් පුංචි අම්මා වන අපගේ මහාප්‍රජාපතී ගෞතමී මහරහත් තෙරණින් වහන්සේත් මේ විසාලා මහනුවරම කරවන ලද රම්‍ය වූ මෙහෙණවර අසපුවක වැඩ සිටියා. එතුමිය එහි වැඩහුන්නේ සියලු කෙලෙසුන්ගෙන් නිදහස්ව අමා නිවන් පසක් කල රහත් මෙහෙණින් වහන්සේලා පන්සිය නමක් සමඟය. එදා ප්‍රජාපතී ගෞතමී තෙරණියගේ නිකෙලෙස් හද මඬලෙහි මෙබඳු චිත්ත සංකල්පනාවක් පැනනැග්ගේය. ඒ අපගේ භාග්‍යවතුන් වහන්සේගේ පිරිනිවන් පෑම හෝ අපගේ අග්‍රශ්‍රාවක දෙනම වහන්සේගේ පිරිනිවන් පෑම හෝ අපගේ ආනන්ද, නන්ද, රාහුලයන් වහන්සේගේ පිරිනිවන් පෑම හෝ මට නම් දැකගන්න ලැබෙන්නේ නෑ. අපගේ මහා ඍෂිවර ලෝක නාථයන් වහන්සේගෙන් අවසර ඉල්වාගෙන කල් ඇතිවම ආයු සංස්කාර අත්හැර දමා මට පිරිනිවන් පාන්න ඇත්නම් හොඳයි, අන්න එහෙම සිතුවිල්ලක් ප්‍රජාපතී ගෞතමී උත්තමාවියට ඇතිවුනා. පින්වතුනි හරි ආශ්චර්‍යයයි, ඒ නිකෙලෙස් මුණිවරුන්ගේ, නිකෙලෙස් මුණිවරියන්ගේ ජීවිත. මහා ප්‍රජාපතී ගෞතමී රහත් උත්තමාවිය ඔහොම සිහිපත් කරනකොට ඒ මොහොතේම අනිත් පන්සීයක් වූ රහත් තෙරණිවරුන්ගේ සිත් තුළත් අපගේ භාග්‍යවතුන් වහන්සේගෙන් අවසර ඉල්වාගෙන අපිට පිරිනිවන් පාන්න ඇත්නම් අගෙයි කියන සිතුවිල්ල ඇතිවුනා කියනවා. ඒ අවස්ථාවේම ඛේමා ආදී අනෙක් රහත් උත්තමාවියන්ගේ නිකෙලෙස් හදවත් වලත් ඒ අදහසම පැන නැංගා. අපිත් බුදුරජාණන් වහන්සේගෙන් අවසර පතලා පිරිනිවන් පාන්න ඕන කියන අදහස. ඒ ක්ෂණයෙහිම මහා පෘථිවිය කම්පා වී ගියේය. අහස්කුස මහා හඬින් ගිගුරුම්

දුන්නේය. ගෞතමී උත්තමාවියගේ චිත්ත සංකල්පනාව දැනගත් මෙහෙණවරට අරක්ගත් දෙවි දේවතාවෝ මහත් සේ කම්පාවට පත්වීය. හඬා වැළපෙන්නට පටන් ගත්තේය. කඳුළු වගුරුවන්නට පටන් ගත්තේය. එවිට අපේ ගෞතමී මහාතෙරණියගේ සහායිකා මිතුරියන් වූ අනිකුත් තෙරණින් වහන්සේලා වහා එතුමිය සොයාගෙන පැමිණියා. පැමිණ එතුමියගේ පා මතුයෙහි සිරසින් වැඳ වැටී මෙකරුණ අසා සිටියා. මහා ලොමු ඩැහැගැන්වෙන අසිරිය එදා සිද්ධවුනා. ඒ අසිරිය දැනිච්චි අපේ මහාප්‍රජාපතී ගෞතමී මහරහත් තෙරණින් වහන්සේගේ සමීපතම භික්ෂුණීන් වහන්සේලා ඉක්මණින් ඇව සොයාගෙන පැමිණියා. සොයාගෙන පැමිණිලා ප්‍රජාපතී ගෞතමී උත්තමාවියගෙන් මේ විස්තරය ඇහුවා. උත්තමාවියෙනි ඇයි මෙහෙම සිදුවීමක් සිද්ධ වුනේ. හදිසියේම ඇයි මෙහෙම ආශ්චර්‍යයක් ලෝකෙ පහළ වුනේ. ඇයි පොළොව කම්පා වී ගියේ. ඇයි මේ අහස්කුස ගිගුරුම් කෑවෙ, මොකක්ද උත්තමාවියනි මේකට හේතුව කියලා අනිත් භික්ෂුණීන් වහන්සේලා විමසා සිටියා. ඒ වෙලාවේ මහාප්‍රජාපතී ගෞතමී රහත් තෙරණින් වහන්සේ මේ සිද්ධ වෙච්චි සිදුවීම පැහැදිලි කලා. ඒ උත්තමාවියගේ හිතේ හටගත්තු චිත්ත සංකල්පනාව පැහැදිලි කලා. ඉතින් ඒ වෙලාවේ මේ මෙතෙන්ට පැමිණියේ පින්වතුනේ අපි මේ ධර්ම දේශනා මාලාව ආරම්භ වෙනකොටම ශ්‍රවණය කලානෙ, භික්ෂුණී සංඝයා බිහිවෙච්චි හැටි. මහාප්‍රජාපතී ගෞතමී උත්තමාවියත් එක්ක පන්සීයක් කුල කාන්තාවො පැමිණියා. අන්න ඒ පැමිණි පන්සීයක් කුල කාන්තාවො භික්ෂුණී සංඝයා අතරේ පැවිද්ද ලබාගෙන උතුම් මහරහත් තෙරණින් වහන්සේලා බවට පත්වෙලයි වැඩ හිටියේ. ඒ සහායිකා භික්ෂුණීන් වහන්සේලා ඒ වෙලාවේ අපේ ගෞතමී රහත් තෙරණින් වහන්සේට මෙහෙම කියනවා. අපගේ ආර්ය උත්තමාවියෙනි, ඉතින් ඔබතුමි පරම සුන්දර වූ අමා මහ නිවනේ සැනසී යන්න රුචි කරන්නේ නම් මනා පිළිවෙත් ඇති උත්තමාවියනි, අපි සියල්ලෝමත් එසේ නම් ශාස්තෘන් වහන්සේගෙන් අවසර ඉල්ලාගෙන අනුපාදිශේෂ පරිනිර්වාණ ධාතුවෙන් පිරිනිවී යමු. එහෙම කිව්වා. එතකොට ඒ ඔක්කොම උත්තමාවියො තීරණය කලා එකම මොහොතක පිරිනිවන් පාන්න. අපගේ පින්වත් ආර්යාවෙනි අපි සියල්ලෝම ගිහිගෙය අත්හැර අනගාරික බුදුසසුනේ භික්ෂුණී සංඝයා අතරට පිවිසෙන්නෙමුයි කියා නික්ම ආයේ එකටම නොවැ. මේ භව දුකින් අපි හැමෝම නිදහස් වුනෙත් එකටම නොවැ. ඉතින් එසේ නම් උත්තම වූ අමා නිවන් පුරයටත් එකටම පිවිසෙන්නෙමු. ඒ කිව්වෙ අනුපාදිශේෂ පරිනිර්වාණය, නිවන් පුරයට

පිවිසෙනවා කියන සොඳුරු වචනය යෙදුවේ නිවී යාම. පහන් සිලක් සේ නිවී යාම. එතකොට අපේ ප්‍රජාපතී මහා ගෞතමී තෙරණින් වහන්සේ ඒ සියලු දෙනාත් එක්කම භික්ෂුණී අසපුවෙන් නික්මිලා බැහැරට වැඩම කලා. ඒ අපගේ භාග්‍යවතුන් වහන්සේ බැහැදැකීම පිණිස. එතකොට පින්වතුනි අර මුළු මෙහෙණිවරම හිස් වෙලා ගියා කියනවා. භික්ෂුණීන් වහන්සේලා වැඩ හිටපු මෙහෙණ වර හිස් වුනා. සියලු දෙනා වහන්සේ වැඩම කරනවා පිරිනිවන් පෑම පිණිස. මහාප්‍රජාපතී තෙරණින් වහන්සේ මෙතුවක් කල් වැඩ හිටපු මෙහෙණි අසපුව දෙස හැරී බලලා මෙන්න මෙහෙම පැවසුවා. මේ භික්ෂුණී අසපුවට අධිගෘහිතව යම් දෙවි දේවතාවෝ සිටිත්ද, ඒ දෙවිදේවතාවෝ අපිට සමාවෙත්වා. අප මේ මෙහෙණවර දෙස නෙත් විදහා බලන අවසාන දැක්ම මෙයයි, ජරාවට පත්වීමක් නැති, මරණයට පත්වීමක් නැති, අප්‍රියන් හා එක්වීමේ දුකක් නැති, ප්‍රියයන්ගෙන් වෙන්වීමේ දුකක් නැති යම් තැනක් වේද, හේතුඵල දහමින් හටනොගත් යම් තැනක් වේද, අන්න එතනටයි මං මේ යන්න සූදානම් වෙන්නේ කියලා ප්‍රජාපතී ගෞතමී රහත් තෙරණින් වහන්සේත් අනිකුත් කීණාස්‍රව උත්තමාවියන් වහන්සේලාත් ඒ මෙහෙණවර අත්හැරලා අපේක්ෂා රහිතව වැඩම කලා. බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න උතුම් අසපුව කරා ඒ උත්තමාවියෝ පිලිවෙලින් වැඩම කරනවා. ඒ වැඩම කරනකොට අනිත් උපාසිකාවන්ට ආදියට දැනගන්න ලැබුනා මේ මහාප්‍රජාපතී ගෞතමී රහත් තෙරණින් වහන්සේත් අනිකුත් රහත් තෙරණින් වහන්සේලාත් වැඩම කරන්නේ පිරිනිවන් පාන්නලු. හරී දුකට පත්වුනා. ඒ දුකට පත්වෙලා අඬන කොට වැළපෙනකොට ඒ උපාසිකාවියන් සන්සිඳවන්න අපේ ගෞතමී මහාතෙරණියො මෙන්න මේ විදියටයි ඒ අයට දහම කිව්වෙ. පින්වත් දරුවනි ඔය හඬාවැළපීම් වලින් කිසි පලක් නෑ නොවැ. ඇත්තෙන්ම මයෙ දරුවනි, අද තොපට සිනාසීමට මෙයමයි කාලයි. ඒ මෙනිසා නොවැ පිනවත් දරුවනි. මං ඉතින් අප මහා මුණිඳානන් වහන්සේ වදාළ දුක්ඛාර්ය සත්‍යය පිරිසිඳ අවබෝධ කරගත්තා නොවැ. ඒ දුක් උපදවන හේතූන් වන දුක්ඛ සමුදය ආර්ය සත්‍යය මං ප්‍රහාණය කරගත්තා නොවැ. දුක්ඛ නිරෝධය මං සාක්ෂාත් කරගත්තා නොවැ. දුක් උපදවන හේතූන් නසා දමන මාර්ගය වූ උතුම් ආර්යෂ්ටාංගික මාර්ගය මං මනාකොට ප්‍රගුණ කරගත්තා නොවැ. බලන්න පින්වතුනි මේ නිකෙලෙස් තෙරණින් වහන්සේ චතුරාර්ය සත්‍යයමයි කියන්නෙ. තමන්ගේ දෙයක් නොවේ. චතුරාර්ය සත්‍යයමයි කියන්නෙ. ලෝකයෙ යම් ඒ මහා සැනසිල්ලක් වේද, හැබෑ සැනසිල්ලක් වේද, පරම ශාන්තියක් වේද, ඒ පරම ශාන්තිය

කෙනෙකුට ලැබෙන්නේ චතුරාර්ය සත්‍යය අවබෝධයෙන්. පරම ශාන්තිය ලැබූ නිකෙලෙස් මුණිවරු, නිකෙලෙස් මුණිවරියෝ, ඒ චතුරාර්ය සත්‍යයම වර්ණනා කලා. ඉතින් දරුවනා මාගේ ශාස්තෘන් වහන්සේව මං ඉතාම ගරුසරු ඇතිව වාසය කලා නොවැ. ඔව් දරුවනි, මං උතුම් බුද්ධ ශාසනය සම්පූර්ණ කරගත්තා. මං පඤ්චුපාදානස්කන්ධ වර්ග සදහටම පසෙකින් බහා තැබුවා. තෘෂ්ණාව මුළුමනින්ම නසා දැමුවා. දැන් බලන්න මේ වයෝවෘද්ධ රහත් තෙරණින් වහන්සේ උපාසිකාවන්ට කතා කරන විදිය. මේ වෙනකොට ප්‍රජාපතී ගෞතමී උත්තමාවිය පිළිවෙලින් වයස අවුරුදු 120ට පැමිණ සිටියා. පින්වත් දරුවනි මං ගිහි ජීවිතේ අත්හැරලා අනගාරික බුද්ධ ශාසනයේ පැවිදි වුනේ උතුම් ප්‍රාර්ථනාවක් හිතේ තබාගෙනයි. සියලු කෙලෙස් බන්ධන්යන් නැතිකොට ලබන ඒ උතුම් යහපත මං ඉෂ්ට කරගත්තා. අපගේ ශාස්තෘ වූ සම්මා සම්බුදුරජාණන් වහන්සේ යම්තාක් හොඳින් වැඩ ඉන්නා කාලයක් ඇත්ද, ඒ උත්තමයන් වහන්සේ විසින් වදාරන ලද උතුම් ශ්‍රී සද්ධර්මයත් කිසි අඩුපාඩුවක් නැතිව යම්තාක් බබලන කාලයක් ඇත්ද, ඉතින් ඒ මේ කාලය නොවැ. මේ කාලයේ මට පිරිනිවන් පාන්න බොහොම හොඳා. පින්වත් දියණිවරුනි ඒ නිසා ඔයාලා මං ගැන එඹහොම ශෝක වෙන්න එපා. තවත් කියනවා රහත් තෙරණින් වහන්සේ , අනික අපගේ අඤ්ඤාකොණ්ඩඤ්ඤයන් වහන්සේ, ආනන්දයන් වහන්සේ, නන්දයන් වහන්සේ ආදී මහාතෙරුන් වහන්සේලා වැඩ  ඉන්නවා නොවැ. ජිනපුත්‍ර වූ අපගේ රාහුල භද්‍රයන් වහන්සේත් වැඩ ඉන්නවා නොවැ. මේ කාලයේ භික්ෂු සංඝයා සැපවත්ව, යහපතින් යුක්තව වැඩ ඉන්නවා නොවැ. ඒ වගේම මිසිදිටු වූ තීර්ථකයන්ගේ හිස් මාන මද බිඳිලා පවතිනවා නොවැ. මේ ධර්මයේ හැසිරෙන්න සුදුසුම කාලයයි, සුදුසුම කාලයයි කියලා මේ රහත්  තෙරණින් වහෙන්ස උපාසිකාවො සංසිදෙව්වා. දියණිවරුනි අද මේ සිද්ධ වෙන්න යන්නෙ, මං බොහෝ කලක් පත පතා සිටි දෙයක්. මේ තියෙන්නෙ සතුටු නාද වෙන ආනන්දනීය වූ බිහිරි නාදය වයන කාලයක්. අනේ දියණිවරුනි ඔයාලාගේ ඔය කඳුළු වලින් ඇති ඵලය කුමක්ද? පින්වත් දියණිවරුන් එහෙම නොවේ, ඉතින් ඔයාලාගේ සිතේ මා කෙරෙහි දයාවන්ත කමක් තියෙනවා නම්, මා කෙරෙහි ඔයාලා තුල කෙළෙහිගුණ දන්නා බවක් තියෙනවා නම් මෙන්න මේකයි කරන්න ඕන. මේ උතුම්  ශ්‍රී සද්ධර්මය චිරාත් කාලයෙක් පවතිත්වායි සිතා, ඔය හැමෝම ධර්මයේ හැසිරෙන්න පුලුවන් තරම් වීර්යය ගන්න ඕන. එහෙමයි රහත් තෙරණින් වහන්සේ අවවාද කලේ. ඉතින් පිළිවෙලින් වැඩම කලා. පිළිවෙලින් වැඩම කරලා ඒ අපගේ භාග්‍යත් අර්හත් ගෞතම සම්මා

සම්බුදුරජාණන් වහන්සේ සමීපයටම පැමිණියා. බුදුරජාණන් වහන්සේ සමීපයට පැමිණෙච්චි මහාප්‍රජාතී ගෞතමී මහරහත් තෙරණින් වහන්සේ, ඒ වයෝවෘද්ධ උත්තමාවිය, බුදුරජාණන් වහන්සේ වන්දනා කලා. වන්දනාකොට භාග්‍යවතුන් වහන්සේට මෙසේ පැවසුවා. සුගතයාණන් වහන්ස, මං ඔබවහන්සේගේ මව් වශයෙන් සිටියා. නමුත් මහා වීරයාණන් වහන්ස, නුඹ වහන්සේමයි මගේ පියාණන් වහන්සේ. ඒ මගේ පියාණන් කියලා කිව්වෙ බුදුරජාණන් වහන්සේට තමයි ප්‍රජාතී ගෞතමී තෙරණියටත් සරණ දුන්නෙ. ලොවට පිහිටවන මුණිදානන් වහන්ස, නුඹ වහන්සේමයි මට මේ සදහම් සැපය දී වදාළේ. සත්තකින්ම පින්වත් ගෞථමයන් වහන්ස, මං උපන්නේ නුඹ වහන්සේ තුළින්. රහතන් වහන්සේලාට කියනවා බුදුරජාණන් වහන්සේගේ ළයමඬලින් උපන් පුත්තු. රහත් තෙරණිවරු කියන්නෙ ඒ භාග්‍යවත් වූ අර්හත් වූ ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ නම් වූ මහා කාරුණික ශාස්තෲන් වහන්සේගේ හදමඬලින් උපන් දියණිවරු. ඒ භික්ෂුණී සංඝයා බිහි කරීම පිණි මුල් වෙච්චි මහාප්‍රජාපති ගෞතමී මහරහත් තෙරණින් වහන්සේ බුදුරජානන් වහන්සේට කියනවා ස්වාමීනී, ඔබවහන්සේගේ ධර්මය නිසාමයි මමත් බිහිවුනේ. මමත් ඔබවහන්සේගේ ශ්‍රාවක දියණියක්. සුගතයාණන් වහන්ස නුඹ වහන්සේගේ ඔය රූප කාය මං පෝෂණය කලා ඇතිදැඩි කලා තමයි. ඒත් නුඹ වහන්සේ මා තුළ පෝෂණය කොට වදාළේ කිසිසේතම නින්දා නොලබන විස්මිතිත දහම් කයක්. බලන්න ඒ වදන් වල ලස්සන. බුදුරජාණන් වහන්සේගේ බෝසත් අවධියේ ඒ බෝසතාණන් වහන්සේ ආදරයෙන් ඇතිදැඩි කලේ, පෝෂණය කලේ ප්‍රජාපතී ගෞතමී බිසවුන් වහන්සේ. ඒ කාලෙ හෙම කලා තමයි කියනවා. නමුත් නුඹ වහන්සේ මා තුළ පෝෂණය කොට වදාළේ කිසිසේත්ම නින්දා නොලබන විස්මිත දහම් කයක්. සාමාන්‍ය කයක් දිරනවා. සාමාන්‍ය කයක් වැහැරෙනවා. සාමාන්‍ය කයක් මිය යනවා. ඒත් ධර්ම කය. ධර්ම කාය කිසිසේත් නින්දා නොලබන එකක්. ඒ කාලෙ නුඹ වහන්සේගේ මොහොතක සාපිපාසාව සංසිඳවාලන්නට මට කිරිපෙව්වා තමයි. එහෙත් නුඹ වහන්සේ මට පොවා වදාළේ අත්‍යන්තයෙන්ම නිවී සැනසී ගිය අමා දහම් කිරය. හරී සුන්දරයි පින්වතුනි මේ පොත් වහන්සේ, මේ අපදාන පාලිය අපගේ ගුරු දේවෝත්තමයන් වන්නසේ පරිවර්තනය කරලා තියෙන අපූරුව. පින්වතුන්ලා බොහොම සැදැහැ සැතින් මේ පොත් වහන්සේ කියවගන්න. සසර දුක නැති කරන ලෝක නායක වූ වීරයන් වහන්ස, මං මේ ශරීරය අත්හැරලා අනුපාදිශේෂ පරිනිර්වාණ ධාතුවෙන් පිරිනිවන් පාන්න කැමැතියි. මට එයට අවසර දී වදාල

මැනව. බුදුරජාණන් වහන්සේගෙන් අවසර පැතුවා. මහා රන් කඳක් බඳු නුඹවහන්සේගේ රන්වන් බැබළෙන ඔය ශ්‍රී ශරීරය මා හට පෙන්වා වදාළ මැන. දෙතිස් මහා පුරිස ලකුණින් බැබලෙන ඔබවහන්සේගේ රන්වන් ශ්‍රී ශරීරය මේ දෑසින් අවසන් වතාවට දැකබලාගෙන නායකයාණන් වහන්ස මට ශාන්ත වූ අමා නිවනට යන්නම්. එතකොට අපගේ ප්‍රජාපතී ගෞතමී තෙරණි තොමෝ මැනැවින් පෙති විහිදා පිපී ගිය පියුමක් බඳු වූ හිමිදිරි අහසේ නැගී එන ළහිරි මඬලක් බඳු සක් ලකුණු ආදියෙන් බැබළී ගිය අප භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රී පාද පද්මය මත සිරසින් වැඳ වැටුනා. ඒ වැඳ වැටිලා මෙහෙම කියනවා. සූය්‍යී වංශය තුන්ලොවෙහි බැබළ වූ මහා ධජය වූ නරහිරු මඬළාණෙනි, මගේ මරණය සිදුවෙන මේ අවසන් මොහොතේ මම නුඹවහන්සේට නමස්කාර කරමි. මං යලි කිසිදාක මේ දෑසින් නුඹ වහන්සේව දකින්නේ නෑ. ලොවෙහි මුදුනට වැඩි මුණිඳානන් වහන්ස. ලෝකෙ ස්ත්‍රීන් බොහෝ අඩුපාඩු සහිත වූ දොස් සහිත වූ පිරිසක් බව මටත් තේරෙනවා. අනේ ඒ නිසා මා අතිනුත් කිසියම් අඩුපාඩු දොසක් වූයේ නම් කරුණාවට ආකරයක් බඳු මුණිඳාණන් වහන්ස මට සමාව දෙන සේක්වා. ඒ රහත් තෙරණින් වහන්සේ අවසාන මොහොතේ ශාස්තෘන් වහන්සේ වැඳපුදාගෙන පිරිනිවන් වඩින්න පෙර පැවසූ වදන්. ස්ත්‍රීන්ට මේ බුදු සසුනේ පැවිදි බව ලබාදෙන්න කියමින් අනේ මාත් නැවත නැවත ඉල්ලා සිටියා. ඉතින් ඒ කටයුතු වලදී මා අතින් කිසියම් අඩුපාඩුවක් දොසක් වූයේ නම් නරෝත්තමයන් වහන්ස මට සමාව දෙන සේක්වා. එහෙම සමාව ඉල්ලනකොට මහා කාරුණික ශාස්තෘන් වහන්සේ මෙහෙම වදාරනවා. ගුණධර්මයන්ගෙන් බැබළී ගිය තැනැත්තී, සමාවක් දීමට තරම් කිසිදු කරුණක් දකින්නට නැති කල්හි කවර කරුණකට නම් සමාව දෙන්නද. අමා නිවන කරා පිරිනිවන් පෑම පිණිස පිටත්ව යන්නා වූ ඔබට මතුමත්තෙහි මං කුමක් නම් කියන්නද. ඇයි රහතන් වහන්සේලාට රහත් තෙරණිවරුන්ට කියනවා කතකිච්ඡ. කළයුතු සියල්ල කොට නිමා කල, ආයෙ කිසිවක් කරන්න නෑ. බුදුරජාණන් වහන්සේගේ අවවාදයේ පිහිටා සියලු කෙලෙස් නසා දැමුවා. බුදුරදුන්ගේ අනුශාසනාව සම්පූර්ණයෙන්ම ඉෂ්ට කලා. තවත් කුමක් කියන්නද කියලා ඇහුවා. පාරිශුද්ධ ගුණයෙන් කිසිදු අඩුවක් නැතිව සිටින මාගේ ශ්‍රාවක භික්ෂු සංඝයා කෙමෙන් කෙමෙන් මේ ලෝකයෙන් නික්මී පිරිනිවීමට යන්න පටන් අරගෙන තියෙන කාලෙක, හිරු මඬල උදාවිගෙන එද්දී අහස් කුස දිලිසෙමින් බැබලී ගිය තාරකාවන්ට සිදුවන ව්‍යසනය දැක කලින්ම ආකාසයෙන් ඉවත් වන චන්ද්‍රලේකාවක් වගෙයි ඔබ. එහෙමයි ශාස්තෘන් වහන්සේ ඒ උත්තමාවියව

හැඳින්වූයේ. එතකොට මහාප්‍රජාපතී ගෞතමී තෙරණින් වහන්සේ බුදුරජාණන් වහන්සේ කුරවීක නාදයෙන් ගම්භීර බ්‍රහ්මස්වරයෙන් පවසන වදන් අහගෙන මෙහෙම කියනවා. අනේ මහා වීරයන් වහන්ස, නුඹ වහන්සේගේ මුවමඩල දෙස කොයිතරම් කල් බලා සිටියත්, මේ දෑස නම් කවරදාකවත් සෑහීමකට පත්වන්නේ නෑ, නුඹ වහන්සේගේ වචන වලට කොයිතරම් සවන්දීගෙන සිටියත් මේ කනත් එහෙමයි, කවදාකවත් සෑහීමකට පත්වන්නේ නෑ. බලන්න පින්වතුනි මේ රහත් තෙරණිවරුන්ගේ වදන්. මේ රහත් තෙරණිවරුන්ගේ වදන් වල ආඩම්බරය, උඩඟුකම, මාන්නක්කාරකම, තමන් අවබෝධ කලා කියලා පෙන්නිල්ල, මේ මොකුත් ගෑවිලා නැති හැටි බලන්න. කොයිතරම් අහිංසක කොයිතරම් සුන්දර වදන් ද මේ. බුදුරජාණන් වහන්සේ දෙස බලාගෙන ඉඳලා සෑහෙන්නේ නෑ කියනවා. රහත් තෙරණියක්, කෙලෙස් කසට කිසිවක් නැති පාරිශුද්ධ සන්තානයක් දරන උත්තමාවියක් කියනවා ඔබවහන්සේ දෙස කොච්චර වෙලා බලා සිටියත් ස්වාමීනී මට ඇතිවෙන්නෑ. ඔබවහන්සේගේ ඔය සොඳුරුවදන් කොච්චර අහගෙන හිටියත් මගේ සිත සෑහෙන් නෑ. නමුත් මුණිදානන් වහන්ස මාගේ මේ එකම එක සිත ඒ අමා දහම් රසයෙන් සම්පූර්ණයෙන්ම තෘප්තිමත් වුනා. සෑහීමකට පත්වුනා. බුදුරජාණන් වහන්සේ අවසාන මොහොතේ කියපු වචන ටිකෙන් සිත සම්පූර්ණයෙන්ම සෑහීමකට පත්වුනා කියනවා. ඉතින් ඔය විදියට පින්වතුනේ ඒ අවසාන මොහොතේ තවත් බොහෝ කරුණු කාරණා මහා ප්‍රජාපතී ගෞතමී උත්තමාවිය බුදුරජාණන් වහන්සේ ඉදිරියේ පැවසුවා. ඒ පැවසූ වදන්මයි මහාප්‍රජාපතී ගෞතමී තෙරණියගේ ගාථා විදියට ථෙර ථෙරී ගාථා පොත් වහන්සේ තුළ සඳහන් වෙන්නෙත්. සියලු සත්වයන්ට වඩා උතුම් වූ බුද්ධ වීරයන් වහන්ස, ඔබවහන්සේට මාගේ නමස්කාරය වේවා. මාවත් මේ අනික් බොහෝ ජනයාවත් සංසාරයෙන් එතෙර කොට වදාළේ ඔබවහන්සේමයි. මං මේ දුක පිරිසිඳ දැකගත්තා. දුක හදන හේතුව වන තණ්හාව නැති කරදැම්මා. ආර්ය අෂ්ටාංගික මාර්ගය සම්පූර්ණ කරගත්තා. දුක් නැතිවීම වන නිවනත් සාක්ෂාත් කලා. ජීවිතේ යථාර්තය නොදැක පිහිටක් නැතිව සංසාරයේ ඇවිදගෙන යද්දි මං ඔබවහන්සේට අම්මා වුනා. තව ජීවිතයක මං පුතා වුනා. තව වාරයක මං තාත්තා වුනා. තවත් වාරයක මං සහෝදරයා වුනා. තවත් වාරයක ආච්චිත් වුනා. මං ධර්මය තුළින් භාග්‍යවතුන් වහන්සේව දැකගත්තා. මං මේ දරාගෙන ඉන්නෙ අන්තිම සිරුර. ඉපදෙන සංසාරෙ ගෙවී ගියා. ආයෙත් නම් මට පුනර්භයක් නෑ. පටන් ගත්තු වීර්යයෙන්ම සිටින්න, දිවි දෙවැනිකොට

ධර්මයෝ හැසිරුණ නිතරම දැඩි වීර්ය පරාක්‍රමයෙන් යුක්ත සමඟි සම්පන්න ශ්‍රාවක සංඝයාව දැකගන්න බුද්ධ වන්දනාව කියන්නෙ ඒක. බලන්න ප්‍රජාපතී ගෞතමී උත්තමාවිය අවසාන වශයේන ශාස්තෘන් වහන්සේට කියපු වදන. මහාමායා බිසවුන් වහන්සේ ගෞතම බුදුසමිදුන්ව මේ ලෝකෙට බිහි කෙරුවේ බොහෝ දෙනාගේ යහපත පිණිසමයි. ඒ නිසාමයි රෝග මරණ වලින් පෙලෙන මේ සත්වයන්ගේ දුක් දුරුවෙලා ගියේ. මහාමායා බිසවුන් වහන්සේ තමයි ශාස්තෘන් වහන්සේව ඒ මහා පුරුෂයන් වහන්සේව මේ ලෝකෙට බිහි කළේ. ඒ හින්දාමයි කියනවා සත්වයන්ගේ සියලු දුක්ගිනි දුරුවූයේ. ඉතින් මහාමායා බිසවුන් වහන්සේ බෝසතාණන් වහන්සේව මෙලොවට බිහි කරලා දින හතක් ඇතුලක කාලක්‍රියා කලානෙ. ඊටපස්සෙ අපේ මහාබෝධිසත්වයන්ව හදාවඩාගත්තෙ ප්‍රජාපතී ගෞතමී උත්තමාවිය, හරී ආදරෙන්. ප්‍රජාපතී ගෞතමී බිසවුන් වහන්සේට හිටපු නන්දා සහ නන්ද කියන දරුවන්ටත් වඩා මහබෝසතාණන් වහන්සේට ආදරය කලා කියනවා. ඉතින් එහෙම ආදරෙන් හිටපු මහාප්‍රජාපතී ගෞතමි බිසවුන් වහන්සේ පැවිදි වුනාට පස්සෙ දවසක් මෙහෙම සිද්ධියකුත් වෙලා තියෙනවා. ලොවෙහි උත්තම නායකයන් වහන්සේ ධර්මය දේශනා කරමින් සිටිද්දී එක්තරා අවස්ථාවක කිවිසුමක් පිට කලා. ඒ අවස්ථාවේදීත් මං මහත් අනුකම්පාවෙන් යුතුව මෙවන් ආශිර්වාද වචනයක් කිව්වා. සාමාන්‍යයෙන් දරුපැටවුන්ට කිවිසුම් යනකොට ආදර අම්මලා ආශිර්වාද කරනවා නේද. ඉතින් මේත් ආදර අම්මා කෙනෙක්නෙ. බුදුරජාණන් වහන්සේ දහම් දෙසමින් ඉද්දි කිවිසුවක් පිට කලා. ඒ මොහොතේ ප්‍රජාපතී ගෞතමී උත්තමාවි මෙහෙම ආශිර්වාදයක් කලා කියනවා. මහා වීරයාණන් වහන්ස, චිරාත් කාලයක් වැඩ සිටින සේක්වා. මහා මුණිවරයාණන් වහන්ස, කල්පයක් සුවසේ වැඩ සිටින සේක්වා. සියලු ලෝකයාගේම යහපත පිණිස ජරාවක් මරණයක් නැතිව වැඩ සිටින සේක්වා කියලා ඒ වෙලාවේ ආශිර්වාදයක් කලා. එසේ කිවූ ඒ මට අපගේ බුදුරජාණන් වහන්සේ මෙසේ වදාලා කියනවා. ගෞතමී දැන් ඔබ යම් අයුරකින් තථාගතයන්ට වන්දනා කලා ද බුදුවරයන් වහන්සේලා වන්දනා කල යුත්තේ ඔය අයුරින් නම් නොවෙයි. ඒ වෙලාවේ ප්‍රජාපතී ගෞතමී උත්තමාවිය ඉල්ලා හිටිනවා අනේ සර්වඥයන් වහන්ස එසේ නම් තථාගතයන් වහන්සේලාට වන්දනා කල යුත්තේ කොයි ආකාරයටද කියා මා හට කාරණා පැහැදිලි කරදෙන සේක්වා. බුදුරජාණන් වහන්සේ වදාළා යම් විටක කෙලෙසුන් දුරු කරනු පිණිස පටන් ගත් වීර්යය ඇති කාය ජීවිත දෙක්හි අපේක්ෂා නැතිව දහමට දිවි පුදා සිටින, කෙලෙස් දුරු කිරීමට නිරතුරුව යොදන

ලද දැඩි වීර්ය පරාක්‍රම ඇති ඉතා සමඟියෙන් වාසය කරන්නා වූ ශ්‍රාවක සංඝයාව දකින්න ලැබේනම් ඒ දැකීමමයි බුදුරදුන්ට කරන වන්දනාව. එහෙමයි භාග්‍යවතුන් වහන්සේ බුද්ධ වන්දනාව කියන එක අර්ථ දැක්වූවෙ, භික්ෂූන් වහන්සේලා වීර්යයෙන් දහමෙහි හැසිරෙමින්, එහමෙ නැත්නම් සංඝයා වීර්යයෙන් දහමෙහි හැසිරෙමින් සමඟියෙන් වාසය කිරීම. ඉතින් ඒ අවස්ථාවේ අපගේ භාග්‍යවතුන් වහන්සේ ප්‍රජාපතී ගෞතමී උත්තමාවියට මෙන්න මෙහෙම වදාළා, ගෞතමී, මේ ලෝකයේ නුවණ රහිත බාල උදවිය ඉන්නවා. ස්ත්‍රීන්ගේ ධර්මාවබෝධය ගැන ඔවුන්ට සැකයි. ඒ නිසා ඔවුන්ගෙ මිසදිටු දුරුවීම පිණිස දැන් ඔබ ඍද්ධි ප්‍රාතිහාර්යය දක්වන්න. මේ සමාජය තුළ පින්වතුනි, ඇත්තෙන්ම ශාස්තෘන් වහන්සේ පහළ වෙච්චි ඒ ඈත අතීතයේ ස්ත්‍රීන්ට හිමිවෙලා තිබුනෙ ඉතාම පහත් තැනක්. ස්ත්‍රීන්ව බොහොම පහත් තැනක තියාගෙන ස්ත්‍රීන්ව සමාජයේ කොන් කරලා තිබුනු කාලෙක, බුදුරජාණන් වහන්සේ සද්ධර්මය දේශනා කරනකොට ඒ ස්ත්‍රීන් අතරේ හිටපු නුවණැති ස්ත්‍රීන්ට දහම අවබෝධ කරන්න ලැබුනා. බුදුරජාණන් වහන්සේ වදාරනවා, නුවණ රහිත මෝඩ ජනතාව ස්ත්‍රීන් සම්බන්ධයෙන් ඉන්නෙ පහත් හැඟීමක. ඔවුන්ගේ අදහස ස්ත්‍රීන්ට ධර්මාවබෝධ කරන්න බෑ කියලයි. ඒ නිසා ඔබ දැන් පෙළහර කරන්න කිව්වා. එතකොට මහාප්‍රජාපතී මහරහත් තෙරණියෝ සම්බුදුරජාණන් වහන්සේට වන්දනාකොට අහසට පැන නැංගා. බුදුරජාණන් වහන්සේගේ අනුමැතියෙන් නොයෙක් ආකාරයට ඍද්ධි ප්‍රාතිහාර්ය මහා පෙළහර දක්වන්න පටන් ගත්තා, පින්වතුනි ඒ පෙළහර කතාව ගාථා කීපයකින්ම මේ පොත් වහන්සේ තුළ විස්තර වෙනවා. ඉතින් ඒ පෙළහර කතාව සැදැහැවත් පින්වතුන්ලා කියවාගන්න, හිත පහදවගන්න. මේ ධර්ම දේශනාවට යෙදිලා තියෙන කාලවේලාව අපිට ඒ පෙළහර කතාව විස්තර කරන්න ප්‍රමාණවත් වෙන් නෑ. ඔය විදියට මහා පෙළහර සිද්ධ කරලා ප්‍රජාපතී ගෞතමී තෙරණින් වහන්සේ යළිත් බුදුරජාණන් වහන්සේට වන්දනා කරනවා. මහාවීරයන් වහන්ස, නුඹවහන්සේගේ බුදු සසුන සම්පූර්ණ කළ මං නුඹවහන්සේගේ පුංචි අම්මා. සදහම් ඇස්ඇතියාණෙනි, ඉතින් මේ පුංචිඅම්මාටත් උතුම් අර්හත්වයට පත්වෙන්න පුලුවන් වුනා. දැන් ඕතොමෝ නුඹවහන්සේගේ සිරිපා කමල් වන්දනා කරනවා. මහා මුණිවරයාණන් වහන්ස, මට දැන් උපතින් අවුරුදු එකසිය විස්සක් වෙනවා. වීරයාණන් වහන්ස, මට ඒ හොඳටෝම සෑහේ. නායකයාණන් වහන්ස, මං පිරිනිවීමට යන්නම්. ඒ විදියටයි පින්වතුනේ ඒ උත්තමාවිය මහා පෙළහරක් සිදුකොට රැස්ව සිටි සියලු දෙනාට

දහම් කතාවත් සිදු කොට භාග්‍යවතුන් වහන්සේවත් නොයක් ගුණ වර්ණනාවෙන් වන්දනා කොට පිරිනිවන් පෑම පිණිස නික්මී වැඩම කලේ. ඉතින් ඒ මොහොතේම අර ප්‍රජාපතී ගෞතමී මහරහත් උත්තමාවියත් සමඟම නික්මෙච්චි පන්සීයක් වූ අර්හත් තෙරණිවරුන් බුදුරජාණන් වහන්සේගෙන් පිරිනිවන් පෑම පිණිස අවසර පැතුවා. එතකොට තුන්ලොව දිනූ අපගේ භාග්‍යවතුන් වහන්සේ ඒ උත්තමාවියන්ට මෙසේ වදාළා. අපටත් පිරිනිවන් පාන්න ඕනෑය කියා මෙසේ පවසන්නියන් හට මං වෙන කුමක් කියන්නද. යම් පිරිනිවීමක් පිණිස ඔබ කල් බලා සිටියාද, ඒ කාලය දැන් දැනගන්න. බුදුරජාණන් වහන්සේ ඇලාටත් අවසර ලබාදුන්නා. ඊටපස්සෙ අපේ මහාප්‍රජාපතී ගෞතමී තෙරණී තොමෝ අනිත් රහත් තෙරණින් වහන්සේලාත් සමඟ බුදුරජාණන් වහන්සේට මහත් හරසරින් වන්දනා කොට බිමට යොමු කළ නෙතින් යළිත් මෙහෙණවර අසපුවට වැඩියා. වැඩම කොට අර්ධ පළඟක් බැඳගෙන උතුම් ආසනයේ වැඩ සිටියා. ඒ භික්ෂුණීන් වහන්සේලා වාඩිවෙච්චි පිළිවෙල. ඊටපස්සෙ අපගේ ගෞතමී තෙරණී තොමෝ පිළිවෙලින් ධ්‍යාන සමාපත්තීන්ට සමවැදුනා. පළවෙනි ධ්‍යානයට සමවැදුනා. දෙවෙනි ධ්‍යානයට, තුන්වෙනි ධ්‍යානයට, හතරවෙනි ධ්‍යානයට සමවැදුනා. පිළිවෙලින් ආකාසානඤ්චායතන, විඤ්ඤාණඤ්චායතන, ආකිඤ්ඤංයාතන, නෙවසඤ්ඤානාසඤ්ඤායතන සමාපත්තීන්ට සමවැදුනා. අවසානයේ නිරෝධ සමාපත්තියට සමවැදුනා. ඊටපස්සෙ යළිත් නිරෝධ සමාපත්තියෙන් නැගී හිටලා යළිත් නෙවසඤ්ඤානාසඤ්ඤායතනයට, ආකිඤ්ඤංයාතනයට, විඤ්ඤාණඤ්චායතනයට ආදී වශයේන අනුලෝම ප්‍රතිලෝම වශයෙන් ධ්‍යාන සමාපත්තීන්ට සමවැදුනා. අනිකුත් භික්ෂූන් වහන්සේලාත් පිළිවෙලින් ධ්‍යාන සමාපත්තීන්ට සමවැදුනා. එහෙම සමවදිමින් ඉඳලා තුන්වෙනි ධ්‍යානයට සමවැදී එයින් නැගී සිට හතරවෙනි ධ්‍යානයට සමවැදුනා. සතරවෙනි ධ්‍යානයෙන් නැගී සිටි සැණින් තෙල් රහිත වූ පහනක් නිවී යන්නේ යම්සේද එසෙයින්ම අපගේ මහාප්‍රජාපතී ගෞතමී මහරහත් තෙරණී තොමෝ පිරිනිවන් පා වදාළා. ඒ පිරිනිවීම සිද්ධ වෙන මොහොතේ පින්වතුනි අහස් කුස මහත් බැගෑ හඬකින් ගුගුරා ගිගුම් දුන්නා. මහා පෘථිවිය කම්පා වී ගියා. අහස පුරා විදුලි කෙටිලි පැතිරී පොළොවට වැදුනා. දෙවියෝ හඬා වැළපෙන්න පටන් ගත්තා. අහසේ සිට පොළොව දිවමල් වරුසා ඇදහැලෙන්න පටන් ගත්තා. රංග භූමියක් මැද රඟදෙන නළුවෙකු සෙයින් මහාමේරු පර්වතය සැලි සැලී කම්පා වෙන්න පටන් ගත්තා. ශෝකයෙන් බැගෑපත් වූ කලෙක සෙයින් මහා සාගරයද

ශෝකාකුල වූ ඝෝෂාවක් කරන්න පටන් ගත්තා. දෙවියෝත් නාගයෝත් බ්‍රහ්මයෝත් අසුරයෝත් මහා සංවේගයට පත්ව මෙසේ පැවසුවා. අහෝ මේ අර්හත් වූ උත්තමාවිය යම් ආකාරයකින් නිවී ගියාද, ඒකාන්තයෙන්ම හේතුඵල දහමින් සකස් ව සෑම දෙයක්ම අනිත්‍යයි, ශාස්තෘන් වහන්සේගේ උතුම් අනුශාසනාව අනුවම හැසිරුණු යම් තෙරණින් වහන්සේලා මෙතුමිය පිරිවරාගෙන වාසය කලාද ඒ සියලු තෙරණිවරු තෙල් නැතිවීමෙන් නිවී යන පහන් සිළු සෙයින් උපාදාන නැතිවීමෙන් නිවී ගියා. අහෝ සියලු එක්වීම් වෙන්වීම් අවසන් කොට ඇත්තේය. අහෝ හේතුඵල දහමින් සකස් වූ සෑමදෙයක්ම අනිත්‍යයි. අහෝ උපන් ජීවිතය නැසීයාම අවසන් කොට ඇත්තේය. මෙහෙම නොයෙක් දේ කියමින් එදා දෙවිවරු හඬා වැළපුනා. ඉතින් අපගේ මහාප්‍රජාපතී තෙරණියෝ යම් තැනක සැතපී සිට පිරිනිවන් පා වදාළ සේක්ද, ඒ ඇඳ මුළුමනින්ම රනින් නිම වූ ඉතා අලංකාර වූත් උතුම් වූත් උස් මුදුන් වහළ ඇති රන් සිවි ගෙයක තැන්පත් කලාය. ඒ උත්තමාවියගේ ශ්‍රී දේහය තැන්පත් කලේ ඒ විදියේ රනින්ම කරපු සිවිගේක. දතරාෂ්ට්‍ර, විරූඪ, විරූපාක්ෂ, වෛශ්‍රමණ යන ලෝකපාලන සිව්වරම් මහා රජවරු ගෞතමී තෙරණියගේ දේහය තැන්පත් රන් සිවි ගෙය උරහිසින් ඔසවා ගත්තේය. පිරිනිවන් පෑ අනිත් තෙරණින් වහන්සේලාගේ යහන් මෙන් වූ රන් සිවි ගෙවල් සක්දෙවිඳු ආදී කොට ඇති අනිත් දෙවිවරු උරහිසින් ඔසවා ගත්තා. බලන්න සම්බුද්ධ ශාසනයක අසිරිය. මේ රහත් තෙරණිවරුන්ට උපස්ථාන කරන්නෙ කවරෙක්ද, මේ ලෝකය පාලනය කරන ලෝක පාලක දෙවිවරු. බලන්න පින්වතුනි බුදු සසුනක අසිරිය. මෙබඳු බුදු සසුනක බුද්ධං සරණං ගච්ඡාමි කියා සරණ යන්න ලැබීම, ධම්මං සරණං ගච්ඡාමි කියා සරණ යන්න ලැබීම, සංඝං සරණං ගච්ඡාමි කියා සරණ යන්න ලැබීම ශ්‍රාවකයො ශ්‍රාවිකාවො විදියට අපිට කොයිතරම් සන්තෝෂ වෙන්න දෙයක්ද. සියලුම කුළු ගෙවල් ගණනින් පන්සියකි. විස්කම් දිව්‍ය පුත්‍රයා විසින් සිය අසිරිමත් දේවානුභාවයෙන් නිමවන ලද ඒ රන්සිවි ගෙවල් දිලිසී ගියේ සරත් කාලයේ අහස් මුදුනේ බබළන හිරුමඬලක් සෙයිනි. ඒ සියලු තෙරණිවරුන් වහන්සේලාගේ දේහයන් ඇඳන් මත සතපා තිබුනි. ඒ සියල්ලම දෙවියන්ගේ උරහිසට ගන්නා ලදුව ආදාහනය කරනු ලබන ස්ථානය කරා ඔසවාගෙන ගියේය. මුළු මහත් අහස් තලයම අද්භූත වූ වියනකින් වැසී තිබුනි. ඒ වියන පුරා රනින් කරවන ලද සූර්යයාද චන්ද්‍රයාද සහිත වූ තාරකාවෝ බැබලි බැබලී තිබුනා. එහෙම නොයෙක් අසිරිය එදා තිබුනා. දෙව් දේවතාවෝ දිව්‍ය සුවඳ වගුරුවමින් රන් සිවි ගෙවල් පුදන්න පටන් ගත්තේය. දිව්‍ය පුෂ්පයන්ගෙන්

පුදන්නට පටන් ගත්තේය. දිව්‍යමය වූ වාදය වෘදයන්ගෙන් දිව්‍යමය වූ නෘත්‍යයන්ගෙන්, දිව්‍යමය වූ සංගීතයන්ගෙන් පුදන්නට පටන් ගත්තේය. නොයෙක් පුද සත්කාරයො එදා තිබුනා. ඉතින් මේ සියලු පුද සත්කාර මැද මහා ප්‍රජාපතී ගෞතමී තෙරණියගේ ආදාහන කටයුත්ත සිද්ධ වෙද්දී තුන්ලොව අතැඹුලක් සේ අවබෝධ කොට වදාළ තුන්ලොවටම අමෘත නිවසේ ශාන්තිය දායාද කල ශාන්ති නායක මහා කාරුණික බුදුරජාණන් වහන්සේත් මහා භික්ෂු සංඝයා පිරිවරාගෙන ප්‍රජාපතී ගෞතමී උත්තමාවියගේ මේ පිරිනිවීම සිද්ධවෙන, මේ පරිනිර්වානයේ අවසාන මොහොත සිද්ධ වෙන තැනට වැඩම කොට වදාළා. ඒ නිසා මේ පිරිනිවන් පෑම ගැන මෙබඳු වර්ණනාවක් තියෙනවා. අපගේ මහාප්‍රජාපතී ගෞතමී තෙරණියගේ පිරිනිවන් පෑම අතිශයින්ම පුදුම සහගත ආශ්චර්‍ය්‍ය දෙයක් විය. එබඳු වූ ආශ්චර්‍ය්‍ය බවක් සම්බුද්ධ පරිනිර්වාණයේදීවත් සිදුවූයේ නැත. ඒ ආශ්චර්‍ය්‍ය නම් කවරක්ද? බුදුරජාණන් වහන්සේගේ පරිනිර්වාණයේදී එය දකින්නට බුදුරජාණන් වහන්සේ වැඩ නොසිටිනා සේක. එසේම සාරිපුත්ත මහාමොග්ගල්ලාන ආදී අනේක ශ්‍රී ඇති උතුම් භික්ෂු සංඝයා වහන්සේද එහි වැඩ නොසිටි සේක. එනමුත් ගෞතමී පරිනිර්වාණයේදී බුදුරජාණන් වහන්සේත් වැඩ සිටි සේක. සාරිපුත්ත, මහාමොග්ගල්ලාන ආදී අග්‍රශ්‍රාවකයන් වහන්සේලාද, මහාශ්‍රාවකයන් වහන්සේලාද ඒ ආදාහන උත්සවයේදී දැකීමට ලැබුනි. ඒක තමයි ආශ්චර්‍ය්‍යය. ඉතින් ඔය වෙලාවේ බුදුරජාණන් වහන්සේ ප්‍රජාපතී ගෞතමී උත්තමාවිය ගැන මෙහෙම වදාළා. මහණෙනි, ගෞතමී පිළිබඳව මෙසේ දරාගනිව්. ඕ තොමෝ නුවණැති වූවාය. මහා ප්‍රාඥ වූවාය. පැතිර ගිය පුළුල් ප්‍රඥාවෙන් යුතු වූවාය. භික්ෂුණීන් අතර පැවිදිව බොහෝ කල් ගත කල තැනැත්තී, චිරරාත්‍රඥ්ඤී වූවාය. ඒ ගෞතමී තොමෝ ඍද්ධිය විෂයෙහි වශීප්‍රාප්ත වූවාය. දිව්‍ය ශ්‍රවණයෙහිත්, පරචිත්ත විජානන ඥාණයෙහිත් වශීප්‍රාප්ත වූවාය. අර්ථ ධර්ම නිරුක්ති ප්‍රතිභාණ යන සතර පටිසම්පදාවෙහි එතුමිය තුළ තිබූ ඥාණය ඉතා පිරිසිදුය. මේ විදියට බුදුරජාණන් වහන්සේ ප්‍රජාපතී ගෞතමී තෙරණින් වහන්සේගේ ගුණ වර්ණනාව සිදු කලා. මහාප්‍රජාපතී ගෞතමී උත්තමාවිය තමයි පින්වතුනේ මේ ගෞතම බුද්ධ ශාසනයේ භික්ෂුණී සංඝයාට නායිකාව වුනේ. ඈ තමයි මහා ස්ථවිරාවිය. මේ බුද්ධ ශාසනයේ භික්ෂුණී සංඝයා අතරේ අත්දැකීම් බහුලම භික්ෂුණිය. ඉතින් ඒ භික්ෂුණියගේ පිරිනිවන් පෑ අවසන් මොහොත අද කාලෙ වේලා තිබුනු විදියට අපි ශ්‍රවණය කලා. පින්වතුන්ලා මේ මහාප්‍රජාපතී ගෞතමී මහරහත් තෙරණින් වහන්සේ පිරිනිවන් පෑ අවසන්

මොහොත කියන මේ පොත් වහන්සේ අරගෙන මේ පොත් වහන්සේ කියවගන්න. ඒ නිකෙලෙස් සිත් ඇති උත්තමාවිය ගැන සිත් පහන් කරගන්න. යා මහා පඤ්ඤා පුතොපඤ්ඤා භික්ඛුනීනං රත්තඤ්ඤො සාගෝතමී මහාපජාපතී මාතුච්ඡා බුද්ධ සෙට්ඨස්ස. සරණං කත්වා භික්ඛුණී සංඝං පරිනිබ්බුතා මහාගෝතමී නමාමි - යම් මහා ස්ථවිරාවක් මහා ප්‍රඥාවෙන් යුක්ත වූවාද, පැතිර ගිය පුළුල් ප්‍රඥාවෙන් යුක්ත වූවාද, භික්ෂුණීන් අතර චිරාත් කල් පැවිදිව සිටියාද, ඕ තොමෝ ගෞතමී මහාප්‍රජාපතීය. බුද්ධ ශ්‍රේෂටයන් වහන්සේගේ පුංචිඅම්මාය. භික්ෂුණී සංඝයාට සරණක් වී පිරිනිවන් වැඩි මහා ගෞතමී තෙරණියට නමස්කාර කරමි. අප හැමටත් ඒ උතුම් රහතන් වහන්සේලා, රහත් තෙරණින් වහන්සේලා සැනසුනු නිවනේ සැනසෙන්න ලැබේවා. සාදු සාදු සාදු!!!

ධර්ම දානයෙන් රැස් වූ සියලු පින් සියලු දෙවියෝ අනුමෝදන්ව දෙවියෝ දිව්‍ය සැපයෙන් වැඩේවා. ඒ සියලු දෙවියෙන්ගේ රැකවරණ අපි හැමදෙනා හට දෙවියෝ සළසත්වා. දෙවියෝද සසර දුකින් අතමිදේවා. සාදු සාදු සාදු!!! රැස් කල සියලු පුණ්‍ය ධර්මයන් අපගේ ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ සියලූම පුණ්‍ය ධර්මයන් එකලෙසම අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. අපගේ ගුරු දේවයන් වහන්සේ භාග්‍යවතුන් වහන්සේගේ උතුම් සද්ධර්මය රහතන් වහන්සේලා මහත් කැපකිරීමකින් ආරක්ෂා කරගෙන පැමිණි මේ සද්ධර්මය මෑත යුගයේ අපට ඉතාම පැහැදිලිව සරලව සිත් පහන් වෙන ආකාරයෙන් කියවීම පිණිස, ඉගෙන ගැනීම පිණිස අවකාශ සැලසූ නිසයි මේ හැමදේම අපි අහන්නෙ, අපේ හිත් පහදවාගන්නෙ, අපි පින් පුරාගන්නෙ. ඒ නිසා මේ දහම් ශ්‍රවණය කොට අප රැස් කලා වූ සියලු පින් අනුමෝදන්ව ගුරුදේවයන් වහන්සේ නිදුක් වෙත්වා, නිරෝගී වෙත්වා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා, ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්නට වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන්ගේ අනන්ත පුණ්‍යාශිර්වාදය, බුද්ධ රත්නයේ ආශිර්වාදය, ධර්ම රත්නයේ ආශිර්වාදය, සංඝරත්නයේ ආශිර්වාදය, පින් අනුමෝදන්ව සතුටු සිත් ඇති දෙව් දේවතාවුන් වහන්සේලාගේ ආශිර්වාදයෙන් ජූනි මාසෙ 04 වෙනි දිනට උපන්දිනය යෙදුනු පින්වත් උදානි වනිගරත්න මහත්මියට සැලසෙත්වා. ඒ මහත්මියගේ කුස පිළිසඳගෙන සිටින ඒ පින්වන්ත දරු සම්පතටත් තෙරුවනේ ආරක්ෂාව සියලු දෙවියන්ගේ රැකවරණය මේ රැස් කල පිනේ ආශිර්වාදය

නිරන්තරයෙන් සැලසෙත්වා, ඒ දෙවනි දරුවා බිහිකිරීමට බලාපොරොත්තුවෙන් සිටින උදානි වනිගරත්න මහත්මියට තෙරුවන් සරණින්, සියලු දෙවි රැකවරණින් කිසිම කරදරයකින් බාධාවකින් තොරව නිදුක්ව නිරෝගව පින්වන්ත දරු සම්පත සුවසේම බිහි කරන්න වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. උදානි වනිගරත්න මහත්මියටත්, අද ධර්ම දානය සිදු කරන ඒ ස්වාමිපුරුෂයාටත්, කුසේ පිළිසිඳගෙන සිටින දරුවාටත්, ඒ වගේම ඒ පින්වන්ත දෙපලගේ ආදරණීය දියණියටත් මේ සියලු පින් අනුමෝදන් වෙලා සියලු දෙනාට නිදුක් නිරෝගී සුව සැලසේවා. බලාපොරොත්තුවෙන ආකාරයෙන්ම නිරතුරුව උතුම් කල්‍යාණමිත්‍ර ඇසුරම ජීවිතයට ලැබෙත්වා. සුවසේ දහම් මග දියුණු කරගෙන ගෞතම ශාසනයේ ධර්මාවබෝධයෙන් සැනසෙන්න වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. මේ පින්වතුන්ලාගේ නමින් මියගියා වූ සියලු ඥාතීන්ට පින් අනුමෝදන්ව ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදනාව සිදු කරන්න. විශේෂයෙන් සුජීවත්ව සිටින ආදරණීය දෙමව්පියන් ඇතුළු ඥාති හිතමිත්‍රාදීන් ඇතුලු සෑම සියලු දෙනාට පින් අනුමෝදන් වෙත්වා. ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි අද ධර්ම දානය සිදු කරන ඒ සැදැහැවත් පින්වතුන්ලා හැමදෙනා හටත් ශ්‍රද්ධා මාසික ධර්මදාන සාමාජික පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සියලු දෙනාටත් සුපින්වතුන් හැමදෙනාටත් පින් අනුමෝදන්ව සියලු යහපත, සියලු අභිවෘද්ධිය උදාවේවා. සුවසේ දහම් මග දියුණු කරගන්නටත්, සුවසේ පින් කරගන්නටත් අවකාශ සැලසේවා. හැමදෙනාට ගෞතම ශාසනයේ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සුපින්වත් හැමදෙනාට තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=qC_wCmOZbLc

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද දවසේ මේ උතුම් ධර්ම දේශනාවේදී ඔබට අහන්න ලැබෙනවා මේ බුද්ධ ශාසනේ අමා නිවනින් සැනසිච්චි ගුත්තා නම් වූ රහත් තෙරණිය ගැන. දේශනාවට දායකත්වයන් එකතු කරන්නෙ දෙහිවල නිකපේ විජයාරාම මාවතේ පදිංචිව සිටින ජූලි මාසෙ 08 අද දවසේ අසූතුන්වෙනි ජන්ම දිනය යෙදුනු පින්වත් ජී.එස්. පයාගල මැණියන්ට ආශිර්වාද සෙත් ප්‍රාර්ථනා කරන අදහසින්, ඒ මැණියන්ගේ දූදරුවන් විසින් අද ධර්ම දානය සිද්ධ කරන්නෙ මැණියන්ට නිදුක් නිරෝගී සුව සැලසේවා. දීර්ඝායුෂ සැලසේවා කියන ප්‍රාර්ථනාවෙන් යුක්තව. මේ ජීවිත වල පින්වතුනේ සත්‍ය ස්වභාවය ඇත්ත අපිට අහන්න ලැබුනේ ලොව්තුරා භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය නිසා. ජීවිතයක් ඇතුලේ අහන්න ලැබෙන දේවල් එක්ක අපිට වැඩිපුර අපේ සවන් පත් වලින් අහන්න ලැබෙන්නෙ ඇත්ත නෙවෙයි. අපි ආස කරන ඒවා සමහර විට අපිට අහන්න ලැබෙනවා. අපි ආසා කල පමණින් ඒ ඇත්ත නෙවෙයි. ගොඩාක් වෙලාවට මේ ජීවිතේ අපිට අහන්න ලැබෙන්නෙ අපිව මුලාවට පත්කරන, අපිව රවට්ටලා දාන අපි රැවටී යන බොරු, මුලාව, අසත්‍යය. ඒ අතරේ බුදු කෙනෙක් ලෝකයට දේශනා කරපු පරම සත්‍යය අහන්න ලැබෙනවා කියන්නෙ මහා වාසනාවක්. ඊළඟ එක ඒ පරම සත්‍යයේ කතාව ධර්ම දානයක් විදියට දෙන්න ලැබෙනවා කියන්නෙ ඒ ධර්ම දානය කරන පින්වතුන්ලාට මහත් සේ සතුටු වෙන්න පුලුවන්. විශේෂයෙන්ම තමන්ව මෙලොවට දායාද කරපු ආදර මැණියන්ට ජන්ම දිනය නිමිත්තෙන් සෙත් ප්‍රාර්ථනා කරන්න පින් අනුමෝදන් කරන්න දරුවො පිරිසක් ධර්ම දානය කරනවා කියන්නෙ අහන්නත් සතුටු කාරණාවක්. ඒ නිසා පින්වතුන්ලා බොහෝ සේ සතුටු වෙන්න. ධර්ම දානය කරන පින්වතුන්ලා ගොඩාක් සතුටු වෙන්න. තමන්ගේ මැණියන්ට සෙත් පැතීම පිණිස ලෝකයටම සෙත දුන්නා කියලා. තමන්ගේ ජන්මදිනය සමරන මැණියන්ට සෙත් ප්‍රාර්ථනා කිරීම පිණිස අපි ලෝකයටම සෙත දුන්නා, ලෝකයටම අමෘතය දුන්නා කියලා බොහෝම සතුටු වෙන්න. බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ මේ පරම සත්‍යය අවබෝධ කරගෙන සැනසිල්ලට

පත්වෙච්චි මහා පින්වන්ත චරිතයක් ගුත්තා තෙරණිය. ඒ ගුත්තා තෙරණිය ගැනයි අද දවසේ දහම් කතාවෙදි අපි අහන්නෙ. ගුත්තා කියලා කියන්නෙ සැවැත් නුවර උපන්න ස්ත්‍රියක්. තරුණ වයසේදී සාමාන්‍ය ස්ත්‍රීන් වගේම සුදුසු ස්වාමිපුරුෂයෙකුට ඒ ගෙවල් වලින්ම විවාහ කරලා දුන්නා. විවාහයෙන් පස්සෙ ඇයට දරු සම්පතක් ලැබුනා. ඉතින් විවාහ වෙලා දරුවොත් හදාගෙන පවුල් ජීවිතේ ගත කරමින් ඉද්දි තමයි සත්‍යයේ කතාව ඇයට අහන්න ලැබුනේ, පරම සත්‍යයේ කතාව. සාමාන්‍යයෙන් මේ ලෝකෙ ජීවත් වෙනකොට එහෙම නෙවෙයිනෙ අහන්න ලැබෙන්නෙ. ඔන්න අපි සාමාන්‍යයෙන් ලොකු මහත් වෙනකොට අපිට අහන්න ලැබෙනවා විවාහ පාස් කිරීම් ගැන, ඒවා හොඳට පාස් වුනා නම් හරි අගෙයි කියලා. ඉතින් අපි පන්ති ගිහිල්ලා මහන්සි වෙලා උත්සාහ කරනවා හොඳට විභාග පාස් කරගෙන අපේ ජීවිතේ දියුණුවක් හදාගන්න. ඒක ජීවිතේට දියුණුවක් හැදෙනවා තමයි. නමුත් එය නොවෙයි පරම සත්‍යය. එය නොවෙයි පරම සත්‍යය. පස්සෙ අපිට අහන්න ලැබෙනවා විවාහ ජීවිතය ලස්සනට හදාගත්තහම හොඳ අදහස් ආකල්ප වලින් ගැලපෙන දෙන්නෙක් එකතු වුනාම ඒක හරි සුන්දරය කියලා. ඉතින් විවාහ ජීවිතය සම්බන්ධයෙන් අපි නොයෙක් හීන හදාගන්නවා, හීන හදාගෙන ඉන්නවා මං බැන්ද ගමන් මට ඔක්කොම හරියයි කියලා. නමුත් විවාහ වුනාම අපි ඒ හොයන සැපය සැනසිල්ල සතුට අපි බලාපොරොත්තු වෙච්ච මට්ටමට එතන නෑ කියලා අපිට තේරෙනවා. දරුවො ලැබුනාමත් එහෙමයි. සම්පූර්ණ ජීවිතේ ගැන ගත්තොත් පින්වතුනි මිනිස්සුන්ගේ අපේක්ෂා ගොඩාක් තමයි තියෙන්නෙ. ඒ අපේක්ෂාවල සඵලත්වයක් නම් නෑ. සඵල නොවෙනකොට තව තව ඉස්සරහට අපේක්ෂා තියාගන්නවා මිසක් මනුස්සයෙක් තේරුම් ගන්නෑ, ඉස්සරහට හරි හරියයි කියලා. බුදුරජාණන් වහන්සේ ඔය ගැන කතාව වදාළේ කෙහෙල් ගහ පතුරු ගහනවා වගේනෙ. අරටුවක් ඕන කරන මනුස්සයෙක් යම් කිසි වැඩකට අරටුවක් ඕන කරන මනුස්සයෙක් කෙහෙල් ගහක් පතුරු ගැහුවා වගේ. මේ මිනිහාට ඕන කරන්නෙ අරටුවක්. මිනිහා අරටුව හොයන්න තෝරගත්තෙ කෙහෙල්ගහක්. කෙහෙල් ගහ මහතට දෙහෙතට තිබුනා. එතකොට මනුස්සයා හිතුවා කියනවා මේක තියෙන මහතේ හැටියට එකත් එකටම හොඳ අරටුවක් ඇති. ඔන්න කෙහෙල් ගහේ පොත්තක් ගලවනවා. පොත්ත ගලවලා බලනවා අරටුව ද. අරටුව නෙවෙයි තවත් පොත්තක්. ඒ පොත්ත ගලවලා බලනවා, අරටුව ද. ඒක ගලවපුවාම තවත් පොත්තක්. අරටුව නෑ. එතකොට හිතනවා නෑ මේ පොත්තට යටින් අරටුව ඇත්තෙ. ඒක ගලවපුවාම

ආයෙත් පොත්තක් අහුවෙනවා. ආයෙ හිතනවා නෑ මේ පොත්තටත් යටින් තමයි අරටුව ඇත්තෙ. ඔහොම කියනවා ජීවිතේ. ඔය පිළිවෙලට තමයි අපේ ජීවිත කතාව යන්නෙ. අපිත් එක එක අදියරයන් වල අපිට යෙදෙන යෙදෙන දේවල් වල ලොකු ප්‍රාර්ථනා තියාගෙන යමක් හොයනවා. හැබැයි හොයන සැපය නෑ. හොයන සැපය එතන නැතිකොට අපි හිතනවා නෑ මේක කලාම හරියයි. කෙහෙල් ගහ පතුරු ගහනවා වගේ, පතුරු ගහලා පතුරු ගහලා අන්තිමේ අරටුවක් මේ කෙහෙල් ගහේ නම් නෑ කියලා තේරෙනකොට මනුස්සයා සම්පූර්ණයෙන් තේරුම් ගන්නවාද, නෑ ඊටපස්සෙ ඒ මනුස්සයා ඔළුව උස්සලා බලනවා කියනවා වටපිට. වටපිට බලනකොට තවත් කෙසෙල් ගස් පෙනෙයි. එතකොට ඔහු හිතනවා මේකේ නොතිබ්බාට අරකේ ඇති. ඉතින් ඔය ක්‍රමයට කියනවා සංසාර ගමන දිගින් දිගට දිගින් දිගට අපි හැමදෙනාම ආවෙ. එහෙම එද්දි පින්වතුනේ පරම සත්‍යය අහන්න ලැබෙනවා කියලා කියන්නෙ ඒක වචනයෙන් කියන්න බැරි තරම් භාග්‍යයක්. ඉතින් මේ ගුත්තා තරුණිය තරුණ වයසේදී ඈ නොයෙක් අදහස් ප්‍රාර්ථනා සිහින ලෝකත් එක්ක පවුල් ජීවිතේට ඇවිල්ලා දරුවොත් හදාගෙන තමන්ගේ ජීවිතේ ගතකරනකොට තමයි පරම සත්‍යයේ කතාව ඈට අහන්න ලැබුනේ. සංසාරයේ පින් කරපු කෙනෙක් නිසා ධර්මය අහන්න ලැබෙනකොට බලවත්ව හිත පැහැදුනා. පැහැදිලා ස්වාමි පුරුෂයාගෙන් අවසරය අරගෙන දරු පැටවුනුත් අතහැරලා ඈ මේ බුද්ධ ශාසනයේ පැවිදි වුනා. ඉතින් ඒ දරු පැටවු අත්හරින්න ස්වාමි පුරුෂයා අත්හරින්න ඈයට පසුබිම සකස් වුනා. ඈ පැවිදි වුනා. හැබැයි පැවිද්දට පත්වුනාට පස්සෙ මේ හිත එකම තැනක කරකැවෙනවා. ඒ තමයි කාමය. කාමයේ කරකැවෙනවා මේ හිත. ස්වාමිපුරුෂයාව මතක් වෙනවා. ස්වාමිපුරුෂයාගේ ආදර තෙපුල් මතක් වෙනවා. ස්වාමිපුරුෂයාගේ ඒ ආදර පහස මතක් වෙනවා. දරු පැටවුන්ගේ ප්‍රිය තෙපුල් මතක් වෙනවා. දරුපැටවුන්ගේ කොමල හිනාව මතක් වෙනවා. දරු පැටවුන්ගේ ඒ සුවපහසු පහස මතක් වෙනවා. ඈයට අතහැරගන්න බෑ. භාවනා කරන්න කියලා රුක් සෙවණක වාඩිවුනත් ඈගේ හිත යන්නේ කාමයටමයි. ඔන්න ඔය වෙලාවේ මහා කාරුණික ශාස්තෲන් වහන්සේ ගුත්තා තෙරණියට ගාථා වදාළා. පින්වත් ගුත්තා ඔයා මහණ වුනේ ප්‍රියමනාප දරුවො අත්හැරලා, වස්තුවත් අත්හැරලා, උතුම් අර්ථයක් ඇතිව. ඉතින් ඒ අනුවම කටයුතු කරන්න ඕන. හිතට විතරක් රැවටෙන්න නම් එපා. මේ සත්වයෝ රැවටෙන්නේ හිතටමයි. ඊටපස්සෙ මාරයාගේ අරමුණු වලට ඇලිලා ඒ ඈයෝ වාසය කරනවා. ඔවුන්ට සත්‍ය

තත්වය පෙනෙන්නෙ නෑ. අන්තිමේදී සිද්ධ වෙන්නේ නොයෙක් ජීවිත වල ඉපදී ඉපදී සංසාරයේ ඇවිදින්න වෙන එක විතරයි. ඔහොම වදාළා ශාස්තෘන්වහන්සේ. බලන්න මේ බුදුරජාණන් වහන්සේ වදාළ කාරණයේ සත්‍යය පින්වතුනි. මේ සත්වයෝ රැවටෙන්නේ මොකේටද? හිතටමයි. හිත තමයි ඔක්කොම ඔතලා කරලා ලස්සනට මවලා දෙන්නෙ. මහා දුක් කන්දරාවක් අර ලස්සන සැරසිල්ලකින් සරසවලා දුන්නා වගේ. හිත ගානට ඔතලා දෙනවා. මෙහෙම කරාපං, මෙහෙම කලොත් හරියනවා කියලා. අපිත් හිතට ඕන විදියට කටයුත්ත කරනවා. ඒ කරලා හිතට ඕන විදියට කටයුතු කරන්න ගිහිල්ලා අපිට ප්‍රශ්න හටගන්නකොටත් ආයෙ හිත අලුත් අලුත් හීන මවලා දෙනවා. මේකටමයි කියනවා අහුවුනේ. බුද්ධ ශාසනයක පැවිදි වෙන්න ආවත්, කාමය අත්හැරලා පැවිදි ජීවිතයකට ආවත් මේකටම කියනවානෙ හිරවෙන්නෙ. බුදුරජාණන් වහන්සේ ඒ ගැන එක අවස්ථාවක භික්ෂූන්ට දේශනා කලා මේ අනතුර පැහැදිලි කරන්න. භාග්‍යවතුන් වහන්සේ ඔය කාලෙ වැඩහිටියේ පින්වතුනේ සැවැත්නුවර, ජේතවනාරාමයේ, භික්ෂූන් වහන්සේලා අමතලා බුදුරජාණන් වහන්සේ වදාළා, මහණෙනි, මුව වැද්දො මුවන්ව ඇල්ලීම පිණිස තණකොළ කොරටු හදනවා. තණකොළ කොරටු කියන්නෙ මුව වැද්දො විසින්ම හොඳ තණකොළ යායක් වවනවා. ඒ තණකොළ යාය වවන්නේ මුව වැද්දා මුවන්ව අල්ලා ගැනීම පිණිස. බුදුරජාණන් වහන්සේ වදාළා මහණෙනි, මුව වැද්දො තණකොළ වවන්නේ මෙහෙම හිතකින් නම් නෙවෙයි. අනේ මේ මුවරංචු මම වවාපු මේ නිල් තණකොළ කොරටුවට පැමිණිලා අනේ හොඳට කාලා උසට මහතට පෙනුමට හැදෙනවා නම්. මේ මුවෝ බොහෝ කල් සැපසේ ජීවත් වෙනවා නම් කොච්චර හොඳ ද කියලා කරුණාවකට නෙවෙයි කියනවා මේකුන් මේ තණකොළ වවන්නෙ. මහණෙනි වැද්දා මුවන් උදෙසා තණකොළ කොරටුව වවන්නෙ මෙන්න මේ අදහසින්. දැන් මං වවාපු ඒ තණකොළ කොරටුවට මුවෝ රංචු පිටින් ඒවි. ආවට පස්සෙ මේකුන් මේ තණකොළ දකීවි. දැක්ක ගමන් මෙවුන්ට අනිත් ඒවා ඔක්කොම අමතක වේවි. අමතක වෙලා තණකොළ රහට කාගෙන කාගෙන යාවි. කාලා මේකුන් හොඳට මත්වේවි. මත්වෙලා මුසපත් වේවි. මුන්ට ආපහු යන්න ඕන කියලා අමතක වේවි. එතකොට ඉතින් මට තියෙන්නෙ මුන්ව මගේ වසඟයට අරගන්න එකයි, මට ඕන දෙයක් මේකුන්ට කරන්න පුලුවන්. ඔය අදහසින් කියනවා මුවවැද්දෝ තණකොළ වවන්නෙ. තණකොළ දැක්ක ගමන් මුවන්ට ඔක්කොම අමතක වෙනවා. මනුස්ස ලෝකෙට අපි ආවම මනුස්ස ලෝකෙ කාමය තියෙනවා.

ඔක්කොම අමතකයි. ඔක්කොම අමතකයි එතකොට, තමන්ගේ ජීවිතේට සිද්ධ වෙන දේවල් අමතකයි. තමන් නාකි වෙනවා කියලා අමතකයි. තමන් ලෙඩ වෙනවා කියලා අමතකයි. තමන් මරණයට පත්වෙනවා කියලා අමතකයි. තමන් එක්ක එකට ඉන්න අයට සිද්ධ වෙන ව්‍යසන අමතකයි. ඒ ඔක්කොම මේ ලෝකෙ අත්හැරලා දාලා යනවා කියන එක අමතකයි. මැරෙන්න කලින් ජීවිතේට යහපතක් කරගන්න ඕන කියලා අමතකයි. මලාට පස්සෙ ඔක්කොම ටික අත්හැරලා තනියෙන් යන්නෙ කියලා අමතකයි. ඔක්කොම ටික අමතක වෙනවා මේ වචන වැව්ල්ලට. මුව වැද්දො තණකොළ වවපුවාම, මුවෝ ඇවිල්ලා ඒ තණකොළ රසයට මත්වෙනවා වගේ කාම ලෝකයට පැමිණෙන සත්වයා කාමයන්ට මත්වෙලා යනවා. ලේසියකින් බේරෙන් නෑ. මේ කාමය අත්හැරලා, ගිහි ජීවිතේ අත්හැරලා බුද්ධ ශාසනේ පැවිදි වෙච්චි භික්ෂූන්ටත් පින්වතුනේ මේ අනතුරු මෙහෙම්මම තියෙනවානෙ. බුදුරජාණන් වහන්සේ ඒ අනතුර පහදන්න තමයි මේ ලස්සන දේශනාව වදාළේ. භාග්‍යවතුන් වහන්සේ වදාළා මහණෙනි, එක කාලෙක මුව වැද්දො ටිකක් ඔය විදියට තණකොළ කොරටුවක් වැව්වා. තණකොළ කොරටුව වැව්වට පස්සෙ මහණෙනි, වැද්දො අපේක්ෂා කරපු විදියටම මුවෝ තණකොළ කොරටුවට පැන්නා. පැන්න ගමන් උන් තණකොළ දැකලා මත්වුනා. කාගෙන කාගෙන ගියා, මුසපත් වුනා, යන්න අමතක වුනා. මුන් ඔක්කොම වැද්දට අහුවුනා. වැද්දට අහුවෙලා ඒකුන්ගේ ජීවිත විනාශ වුනා. එතකොට ඔය ආරංචිය ගියා කැලේ ඇතුලේ ඉන්න මුවන්ට. මුවරංචුවක් කතා වුනා දැන් පළවෙනි මුව රංචුව වරද්ද ගත්තේ ඔය නිල් තණකොළ කොරටුවට රිංගන්න ගිහිල්ලා. අපි මෙහෙම කරමු, අපිට ඉතින් මේ කැලේ තියෙනවා නොවැ තණකොළ. අපි කැලේ තියනෙ තණකොළයක් කාගෙන ඉමු, ඔය රහට කන්න ගිහිල්ලා මුව වැද්දාගේ කොරටුවට රිංගලා නිකං වැනසෙන්න ඕන නෑ, අපි ඒ නිසා තියෙන එකක් කාලා ඉමු කියලා සම්පූර්ණයෙන්ම නිල් තණකොළ කොරටුව පැත්තට යන එක උන් නැවැත්තුවා. නවත්තලා දැන් මේ මුවරංචුව මුව වැද්දාගේ තණකොළ කොරටුව පැත්තට යන්නෙ නෑ. ඔහොම ඉන්නකොට පින්වතුනේ පෑවිල්ල කාලයක් ආවා. පෑවිල්ල කාලෙ එද්දි කැලේ තියෙන වතුර ටික හිඳිලා ගියා, තණකොළ මැරිලා ගියා, මුවන්ට කෑම නැතිව ගියා. කෑම නැති වුනාට පස්සෙ දැන් මුවරංචුවට අපේක්ෂා කරපු විදියට ඉන්න බෑ. මුව රංචුව ටික ටික, ටික ටික ඇදෙන්න පටන් ගත්තා වැද්දාගේ තණකොළ කොරටුවට. කාලයක් කන්නෙ බොන්නෙ නැතිව හිටපු මේකුන්ට අර තණකොළ දැක්කාට පස්සෙ ඔක්කොම අමතක වුනා. පැන්නා

කොරටුවට. කාගෙන කාගෙන ගියා, මුසපත් වුනා, වැද්දට අහුවුනා. දෙවෙනි රංචුවත් විනාශයි. කැලේ ඇතුලේ ඉන්න මුවොන්ට පළවෙනි රංචුවට වෙච්චි නස්පැත්තියත්, දෙවෙනි රංචුවට වුන නස්පැත්තියත් කියන දෙකම ආරංචි වුනා. එතකොට මුවො තවත් කතා වුනා කියනවා දැන් මේ වැඩේ හරි යන් නෑ. අපි කැලේ ඇතුලට වෙලා හැංගිලා ඉන්නවා කියලා හිටියට බේරෙන්න පුලුවන්කමක් නැති පාටයි. මොකද අපේ ඇයන්ට කෑම බීම ටික නැතිවෙලා යනකොට ඔක්කොම අමතකයි, ආයෙ එතෙන්ට යනවා. අපි වෙන පැලෑනක් ගහමු. අපි මෙහෙම කරමු. මුව වැද්දාගේ තණකොළ කොරටුව ළඟට වෙන්නම අපි අපේ වාසස්තාන හදාගමු. හදාගෙන පරිස්සමින් කාලා මත්වෙන්නේ නැතිව ඉක්මණට අපේ තැන් වලට පැනගනිමු. එතකොට ඔන්න අපිට බේරිලා ඉන්න පුලුවන් කියලා මුවෝ ටික කතා වුනා. මුවන්ගෙත් සෑහෙන්න උප්පරවැට්ටි තිබිලා තියෙනවා. මුවො දැන මෙහෙම කතා වෙලා මේ මුවවැද්දාගේ නිල් තණකොළ කොරටුව ළඟට වෙන්න චූටි කැළෑ රොදක වාසස්ථාන හදාගත්තා. දැන් මුවෝ වැද්දාගේ තණකොළ කොරටුවටම පැනලා කනවා. හැබැයි මත්වෙන්නේ පිස්සුවෙන් නෙවෙයි. චුට්ටක් කාලා ඉක්මණට තමන්ගේ ආරක්ෂක ස්ථානයට යනවා. එතකොට මේ මුව වැද්දායි, මුව වැද්දාගේ පිරිසයි කල්පනා කලා මේකුන් හරි පුදුම පිරිසක් නොවැ. මුන් තණකොළ ටිකත් කනවා, අපිට අහුවෙන්නෙත් නෑ. මුන් උප්පරංකාරයො ටිකක්. මුන්ව අල්ලගන්න ඕන වෙන උපායකින්. එතකොට වැද්දා මොකද කලේ. තමන්ගේ පිරිසත් එක්ක එකතු වෙලා තණකොළ කොරටුවේ වැට ලොකු කලා. ඒ වැඩ ලොකු කලාට පස්සෙ වැට ලොකු කරගෙන කරගෙන යනකොට මුවෝ හැංගිලා හිටපු තැනත් මුව වැද්දාගේ පිරිසට අහුවුනා. බේරෙන්න බැරිව ගියා. තුන්වෙනි පිරිසත් ඉවරයි. ඊටපස්සෙ තව මුව කණ්ඩායමක්, හතරවෙනි මුව කණ්ඩායම. ඒ ගොල්ලො කල්පනා කලා පළවෙනි රංචුවත් විනාශ වුනා. දෙවෙනි රංචුවත් විනාශ වුනා, තුන්වෙනි රංචුවත් විනාශ වුනා. දැන් කොහොමද මේ මුව වැද්දාගෙන් අපි බේරෙන්නෙ. එතකොට ඒ මුවරංචුව කතා වුනා අපි මෙහෙමයි කළ යුත්තෙ, මුව වැද්දාටවත් මුව වැද්දාගේ පිරිසටත් කිට්ටු වෙන්න බැරි තැනක, අපි වාසස්ථාන හදාගන්න ඕන. මිනිස්සුන්ට යන්න එන්න බැරි තැනක. එහෙම තැනක වාසස්ථාන හදාගෙන අපි මුව වැද්දාගේ නිල් තණකොළ කොරටුවම ඇසුරු කරගෙන කාලා බීලා සන්තෝෂෙන් ඉමු. එහෙම කතා වුනා. එතකොට ඒ මුවරංචුව ඒකට දක්ෂ වුනා. මුව වැද්දාටවත්, මුව වැද්දාගේ පිරිසටවත් කිට්ටු වෙන්න බැරි දුර්ග සහිත තැනක ඒ මුවෝ ටික

වාසය කලා. මුව වැද්දාටවත්, මුව වැද්දාගේ පිරිසටවත් ඒක හොයාගන්න බෑ. එහෙම තැනක වාසය කරමින්, නිල් තණකොළ කොරටුවට පැමිණෙනවා, පැමිණිලා කාලා උන් නිදහසේ හිටියා. පස්සෙ මේ මුවවැද්දායි, මුව වැද්දාගේ පිරිසයි කතා වුනා මේ මුවෝ පිරිස ගැන අපි උපෙක්ෂාවට පත්වෙන්න ඕන. මුන් හොඳ නුවණක්කාරයො. මේකුන් තණකොළ ටිකත් කනවා, අපිට හොයාගන්න බැරි තැනක හැංගිලත් ඉන්නවා. මේකුන් පස්සෙ ගිහිල්ලා මේකුන් උදෙසා වැඩි වෙහෙසක් ගන්න ගියොත් එහෙම අපිට අනික් මුවන් වත් අල්ලගන්න බැරිව යනවා. ඒ නිසා මේකුන් සම්බන්ධයෙන් උපෙක්ෂාවට පත්වෙන එක තමයි හොඳ කියලා වැද්දා ඒ මුවන්ව අතහැරියා. ඇයි වැද්දාට කරගන්න දෙයක් නැති නිසා. බුදුරජාණන් වහන්සේ වදාළා උපමා කො මේ අයං භික්ඛවෙ කතා අත්තස්ස විඤ්ඤාපණාය - මහණෙනි, ඔය කතන්දරය මං ඔබට කියාදුන්නේ අර්ථයක් මතු කරලා දෙන්නයි. අයං චෙ වෙත්ත රත්තො - මහණෙනි මේක තමයි ඕකෙ අර්ථය. නිවාපෝතිකො භික්ඛවෙ පඤ්චං මේතං කාම ගුණං අධිවචනං - මහණෙනි, නිල් තණකොළ කොරටුව කියන්නෙ පංච කාම ගුණයන්ට කියන නමකි. නිවාප. මේ දේශනාවේ නම නිවාප. මජ්ඣිම නිකායේ තියෙන්නෙ, පින්වතුන්ලාට කියවගන්නත් පුලුවන්, මජ්ඣිම නිකායේ නිවාප සූත්‍රය. නිවාප කියලා කියන්නෙ නිල් තණකොළ කොරටුව. නිල් තණකොළ කොරටුව කියලා කිව්වෙ මොකේටද? පංච කාම ගුණයන්ට කියන නමක්. පංච කාම ගුණ කියලා කිව්වෙ චක්ඛු විඤ්ඤෙයයා රූපා, ඇහැට පේන රූප තියෙනවා ඉට්ඨා කන්තා මනාපා පියරූපා - ඉෂ්ට කාන්ත මනාප ප්‍රියරූපී, කාමූපසංහිතා - ඒ රූපවලට කැමැත්ත ඇතිවෙනවා. රජරියා. කෙලෙස් වගුරනවා. ඒ රූප වලින් රාගාදී කෙලෙස් වගුරවනවා. අන්න පංච කාම ගුණ, එක කාම ගුණයක්. ඔය විදියටම කෙලෙස් වගුරුවන සද්ද තියෙනවා. කෙලෙස් වගුරුවන ගඳ සුවඳ තියෙනවා. කෙලෙස් වගුරුවන ජාතියේ රස තියෙනවා. කෙලෙස් වගුරුවන් ජාතියේ පහස තියෙනවා. ඔන්න ඕවට කියනවා පංචකාම ගුණ. පංච කාම ගුණයට නෙවෙයි පින්වතුනේ කාමය කියලා කියන්නෙ. පංච කාම ගුණ කියලා කියන්නෙ මේ ලෝකෙ තියෙන ඒවා. දැන් බලන්න මේ ලෝකෙ අපි අපේ දෑස් යුග ඇරලා බලනකොට මේ ලෝකෙ තියෙනවා නේද නොයෙක් විසිතුරු රූප, සරාගී රූප, හිත් ඇදබැඳගන්නා රූප, සවන්පත් වලින් මේ ලෝකයට කණ යොමු කරනකොට අපිට නොයෙක් සද්ද අහන්න ලැබෙනවා නේද, ඒවා මේ ලෝකෙ තියෙන ඒවා. බුදුරජාණන් වහන්සේගේ ධර්මයේ සඳහන් වෙන්නෙ නතේ කාමා යානි චිත්‍රානි ලෝකාති - කාමය යනු ලෝකයේ

තියෙන විසිතුරු දේවල් නෙවෙයි. සංකස්ස රාගො පුරිසස්ස කාමො - කාමය කියන්නෙ ඒවා ගැන පුරුෂයාගේ හිතේ ඇතිවෙන සංකල්පය. ලස්සන රූප මේ ලෝකෙ තියෙද්දි මේකෙ ජීවත් වෙන පුරුෂයො ඔක්කොම අමතක කරලා ඒ ලස්සන රූපයට හිත බැඳගන්නවා. අර රූපය නම් හරී ලස්සනයි, ඒ රූපය සදාකල් මගේ වේවා. ඔන්න බැඳුනා. අර හඬ නම් හරී අගෙයි, මගේ ජීවිත කාලෙම ඒ හඬ අහ අහා ඉන්න ලැබේවා. අන්න බැඳුනා. ඔන්න ඔය විදියට මේ පුරුෂයාගේ හිත සංකල්පීය වශයෙන් බැඳනෙවානෙ. බැඳෙන එකටයි කියන්නෙ කාමය කියලා. ඒ බන්ධනය තමයි කාමය බවට පත්වෙන්නෙ. ඇත්තෙන්ම පින්වතුනි ලෝකයේ තියෙන ඒවා කාමය වුනා නම් අපිට නිදහස් වෙන්න බෑ. කාමය කියන්නෙ සංකල්පයක් නිසා තමයි නිදහසක් තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ වදාළා චිට්ඨන්ති චිත්‍රානි ගතෙව ලෝකෙ - ඒ විසිතුරු දේවල් මේ ලෝකයේ තියෙද්දීම, අත්තිත්ති ධීරා විනයන්ති ඡන්දා - නුවණැත්තො කරන්නෙ ඒවා කෙරෙහි ඇති ඡන්දය, ඒවා කෙරෙහි ඇති ආසාව, ඒවා කෙරෙහි ඇති ආලය දුරු කරන එක. එහෙම තමයි නිදහස් වෙන්නෙ. නිදහස් වෙන්න තියෙන පංච කාම ගුණයන්ට තමයි බුදුරජාණන් වහන්සේ නිල් තණකොළ කොරටුව කියලා කිව්වෙ. නිවාපිකො තීකො භික්ඛවෙ මාරස්සේතං පාපිමතො අධිවචනං- මහණෙනි මුව වැද්දා කියලා කිව්වෙ පාපී මාරයාට කියන නමක්. නේවාපික පරිසාතකො භික්ඛවෙ මාර පරිසා ඒතං අධිවචනං. මහණෙනි, මුව වැද්දාගේ පිරිස කියලා කිව්වෙ මාර පිරිසට. මිගජාතාකිකො භික්ඛවෙ සමණබ්‍රාහ්මණානේදී වචනං අධිවචනං - මහණෙනි, මුව රංචුව කියලා කිව්වෙ ශ්‍රමණයින්ට, භික්ෂූන්ට කියන නමක්. මුවෝ කියලා කිව්වෙ අහිංසක මුවෝ කයිලා කිව්වෙ භික්ෂූන්ට. ඒ භික්ෂූන්ව ඇල්ලීමපිණිස මුව වැද්දෙක් බලාගෙන සිටිනවා තමන්ගේ පිරිසත් එක්ක. ඒ තමයි මරු සහ මරුගේ පිරිස. අල්ලන්න හදලා තියෙනවා උගුලක්. නිල් තණකොළ කොටුවක්. මුවෝ ආසා කරන එකක්. ඒ නිල් තණකොළ කොරටුව කියලා කිව්වෙ පංච කාම ගුණයන්ට කියන නමක්. බලන්න ඒ උපමාවේ ලස්සන. බුදුරජාණන් වහන්සේගේ දේශනාවේ තියෙනවානෙ පින්වතුනි මාරයාගේ සේනාවේ පළමුවෙනි සේනාව කියනවානෙ. කාමාතේ පඨමාසේනා - පළමුවෙනි සේනාව තමයි කාමය. කාමය කියන සේනාවෙන් තමයි මුලින්ම ගහන්නේ. කාමය කියන සේනාවෙන් මුලින්ම ගහනකොට බොහෝ පිරිසක් මුලින්ම ඇඹරිලා යනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කලා මහණෙනි, මේ මුව වැද්දා මේ විදියට උගුල අටවනකොට මුවෝ අහුවෙලා ගියා වගේ ශ්‍රමණ බ්‍රාහ්මණයන්ට උගුල අටවනකොට ශ්‍රමණ

බ්‍රාහ්මණයොත් භික්ෂූනුත් අහුවෙලා යනවා. ඒ මෙහෙම. ඔන්න පැවිදි වෙච්ච භික්ෂූන් වහන්සේලා මාරයාගේ නිල් තණකොළ කොරටුව වන පංච කාම ගුණයන්ට රිංග ගන්නවා. රිංගගෙන සිහි විකල් කරගන්නවා. සිහි විකල්ලෙන් සිහි කල්පනාවකින් තොරව පංචකාම ගුණ නැමැති තණකොළ කනවා. ඒ කිව්වෙ කාම ගුණ පරිහරණය කරනවා. ඒ කාමය පරිහරණය කරනකොට ඒකෙන්ම මුසපත් වෙනවා, ඔක්කොටම ටික අමතක වෙනවා, අමතක වෙලා යන්න අමතක වෙනවා. තමන්ගේ ගමන ඇණහිට්ටා. සීල, සමාධි, ප්‍රඥා අමතක වෙනවා. ඊටපස්සෙ ඉතින් මාරයාට කැමැති ඕන එකක් කරන්න පුලුවන්. ඔන්න පළවෙනි පිරිසකට එහෙම වුනා කියනවා. එතකොට අනික් භික්ෂූන් කල්පනා කලා මේක හරියන් නෑ. අපි බේරෙන්න නම් කරන්න ඕන, මේ මාරයාගේ නිල් තණකොළ කොරටුව නම් වූ පංචකාම ගුණ පරිභෝග නොකර ඉන්න ඕන. එහෙම හිතුවා. එහෙම හිතලා ශ්‍රමණ බ්‍රාහ්මණවරු දැඩි ප්‍රතිපත්තියකට ආවා. දැන් ගොඩාක් තියෙනවා ඒ කාලෙ ඉන්දියාවෙ ඔය ජටිල අන්‍ය තීර්ථක පරිබ්‍රාජකවරු හරි දැඩි මතධාරීව ඉඳලා තියෙනවානෙ. ඔන්න හිමාල වනයට යනවා, හිමාල වනයට ගිහිල්ලා ආයෙ මනුස්ස පියසට එන්නේම නෑ. එහේ තියෙන ගස්වල පොතු, ගස්වල ගෙඩි, ගස් වල කොළ කකා ජීවත් වෙනවා. එහෙම වෘක්ෂ ප්‍රතිපදා. ඒකෙ ඉන්න මහන්සි ගන්නවා. ඒ මහන්සි ගන්නෙ මොකක් නිසාද, මේ පංචකාම ගුණයන්ට අහුවෙලා මං වැනසෙයි කියලා. එහෙම හිතාගෙන ඒ ඇයො ඔන්න සියලු පංචකාම ගුණය අත්හැරලා ඇත්වුනා කියනවා. හැබැයි ඈත්වුනාට මොකද ටික කාලයයි. ටික කාලයක් යනකොට වනාන්තරයේ කැලේ ඇතුලට වෙන්නට තිබුනු ආහාරපාන ජාති ඔක්කොම නැතිව ගියා. වනාන්තරයේ වතුර හිඳිලා ගියා. තණකොලත් මැරිලා ගියා. කන්න බොන්න තියෙන ඔක්කොම නැතිව ගියා. එතකොට ඒ ශ්‍රමණ බ්‍රාහ්මණ පිරිසට ආහාර පාන හොයාගන්න යළි ගම්පියසට එන්න සිද්ධ වුනා. මිනිස්සු ඇසුරු කරමින් වාසය කරන්න සිද්ධවුනා. ආයෙමත් වතාවක් කාමයට අහුවුනා, දෙවෙනි පිරිසත් විනාශයි. එහෙනම් මේ කන්නේ බොන්නෙ නැතිව රූප බලන්නෙ නැතිව එහෙම මේක කරන්න පුලුවන් එකකුත් නෙවෙයි. ඒකත් පිළිවෙල නොවෙයි. තුන්වෙනි පිරිසක් තුන්වෙනි ශ්‍රමණ පිරිසක් තව කල්පනා කලා කියනවා මේක හරියන් නෑ, අපි එහෙනම් කරන්න ඕන වෙනත් උපායක්. මේ මාරයාගේ නිල් තණකොළ පිටිය වන කාමයත් පරිහරණය කර කරම අපි මේ ගම් පියස් වලට සමීප වෙලා වාසය කරන්න ඕන, හැබැයි අපි පරිස්සමින් කාමය පරිහරණය කරන්න ඕන කියලා. එහෙම පටන් ගත්තා කියනවා. එහෙම

පටන් ගත්ත ඇතැම් ශ්‍රමණ බ්‍රාහ්මණවරු නොයෙක් දෘෂ්ටි වලට අහුවෙලා ගියා. ඔය දෘෂ්ටි වලට අහුවෙන්න පින්වතුනි ප්‍රධාන හේතුවක් ලාභ සත්කාර කැමැත්ත. තම තමන් පෞද්ගලික දෘෂ්ටි හදාගන්නවා නේද, තම තමන් පෞද්ගලිකව දෘෂ්ටි හදාගන්න හේතුව මොකක්ද, ඒ දෘෂ්ටිය තුළම වාසය කරන්න හේතුව මොකක්ද, ලාභ සත්කාර කැමැත්ත. තමන් කෙනෙක් වෙන්න, තමන් මුදුනෙක් වෙන්න ආසයි. තමන් ශ්‍රාවකයෙක් වෙන්න කැමැති නෑ. බුදුරජාණන් වහන්සේ මෙය වදාළා, භාග්‍යවතුන් වහන්සේ වදාළ දේ අපි දරාගන්න ඕන කියලා කියන්න කැමැති නෑ, මට නම් දැන් තේරෙන්නෙ මෙහෙමයි. මම නම් දැක්කෙ මෙහෙමයි, මගේ වැටහීම මෙහෙමයි, මං කැලේ ඉන්නකොට මෙහෙම වුනා, තමන් කෙනෙක් වෙන්න ආසාව. එතෙන්ට අහුවෙනවා කියනවානෙ. අර ඔක්කොම ගැටවලින් බේරෙනකොට එතෙන්ට අහුවෙනවා. එතෙන්ට අහුවුනාට පස්සෙ ඒත් ඉන්නෙ කොතැනද. මාරයාගේ පැත්තෙ, බේරිල්ලක් නෑ. ඊටපස්සෙ තුන්වෙනි ශ්‍රමණ පිරිසටත් ඒ කියන්නෙ බේරෙන්න බැරිව ගියා. හැබැයි හතරවන ශ්‍රමණ පිරිස බේරුනා. කොහොමද හතරවෙනි ශ්‍රමණ පිරිස බේරුනේ. බුදුරජාණන් වහන්සේ වදාළා ඒ පිරිස බේරෙන්න හේතුව මහණෙනි මාරයාට අල්ලන්න බැරි තැනට ඒ පිරිස ගියා. මාරයාට දැකගන්නවත් බැරි තැනට ඒ පිරිස ගියා. මාර පිරිසට දැකගන්න බැරි තැනට ගියා. මොකක්ද මාරයාට දැකගන්න බැරි මාර පිරිසට දැකගන්න බැරි තැන? විවච්ඡේව කාමේහි විවච්ඡේව අකුසලේහි ධම්මෙහි සවිතක්කං සවිචාරං විවේකජං පීති සුඛං පඨම ධ්‍යානං උපසම්පජ්ජ විහරති - ඒ ශ්‍රමණ පිරිස වීර්යයෙන් භාවනා කරලා ධ්‍යාන ඉපැද්දුවා. ධ්‍යාන භාවනා ඉපැද්දුවා සම්මා දිට්ඨියෙන් යුක්තව ආර්ය ධ්‍යාන, සම්මා දිට්ඨියෙන් යුක්තව උපද්දවන ධ්‍යානයට කියනවා පින්වතුනි ආර්ය ධ්‍යානය එහෙම නැත්නම් සම්මා සමාධිය. සම්මා දිට්ඨිය නැතිව පළවෙනි ධ්‍යානය උපන්නත්, ඒක සම්මා සමාධියක් වෙන් නෑ. සම්මා දිට්ඨිය කියන පරිෂ්කාරය ඕන සම්මා සමාධියක් බවට පත්වෙන්න. සම්මා සමාධියක පරිෂ්කාර අංග බුදුරජාණන් වහන්සේ දේශනා කරනකොට වදාළේ සම්මා දිට්ඨි සම්මා සංකල්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති කියන මේ අංග හතෙන්ම යුක්ත සමාධිය, සම්මා සමාධිය කියලා. එතකොට නිකං භාවනා කරලා ධ්‍යාන සමාධියක් ඉපැද්දුවාට ඒක සම්මා සමාධියක් බවට පත්වෙන් නෑ ශ්‍රාවකත්වය නැත්නම්. සම්මා දිට්ඨිය බවට පත්වෙලා ශ්‍රාවකයෙක් වෙච්චි කෙනාට සම්මා සමාධියක් පිහිටන්නෙ. මේ කතා කරන්නෙ සම්මා සමාධිය ගැන. ඔන්න පළවෙනි ධ්‍යානය

ඉපැද්දුවා. පළවෙනි ධ්‍යානය ගැන මහණෙනි කියන්න තියෙන්නෙ අන්ධමකාසි මාරං - මාරයාව අන්ධ කලා. අපදං අභිත්වා මාරචක්ඛුං අදස්සනං ගතො පාපිමතො - මාරයාගේ බැල්ම පිහිටන තැන නැති කලා. පව්වු මාරයාට දැකගන්න බැරි තැනකට ගියා කියලයි කියන්න තියෙන්නෙ පළවෙනි ධ්‍යානය. බුදුරජාණන් වහන්සේ පිළිවෙලින් ධ්‍යාන විස්තර කලා. පළවෙනි ධ්‍යානය ඉක්මවා දෙවෙනි ධ්‍යානය උපදවාගන්නවා, විතක්ක විචාරානං වූපසමා - විතක්ක විචාර සංසිඳවලා, අජ්ජත්තං සම්පසාදනං - ආධ්‍යාත්මය තුළ බලවත් පැහැදීමකින් යුක්තව, චේතසෝ ඒකොදි භාවං - සිත කුසල් අරමුණේ එකඟ කරගෙන, අවිතක්කං අවිචාරං - විතක්ක විචාර නැති සමාධිජං පීති සුඛං - සමාධියෙන් හටගත්තා වූ ප්‍රීති සැප ඇති, තෘතියං ධ්‍යානං උපසම්පජ්ජ විහරති, දෙවෙනි ධ්‍යානය ඉපැද්දුවා. ඒකත් මාරයාගේ ඇසට වැලි ගැසීමයි. දෙවෙනි ධ්‍යානය ඉක්මවා තුන්වෙනි ධ්‍යානය, පීතියාච විරාගා උපෙක්ඛකෝච විහරති - ප්‍රීතියටත් ඇලෙන්නේ නැතිව උපෙක්ෂාවෙන් වාසය කරනවා. සතොච සම්පජානො සුකං ච කායේන පටිසංවේදේති - හොඳ සිහියෙන් යුක්තව, නුවණින් යුක්තව කයින් සැප විඳිනවා. යං තං අරියා ආචික්ඛන්ති උපෙක්ඛ කො සතිමා සුඛ විහාරෙති - ආර්යයන් වහන්සේලා මේ ධ්‍යාන උපදවාගත්තු මුණිවරු කිව්වෙ මේ පිරිසිදු උපෙක්ෂාවෙන් වාසය කරනවා, උපෙක්ෂා සැපයෙන් වාසය කරනවා කියලා යමකට වදාළාද අන්න ඒ තුන්වෙනි ධ්‍යානය. ඒක උපදවාගෙන වාසය කරනවා. මේ බලන්න ධ්‍යාන විස්තර කරන හැටි ශාස්තෘන් වහන්සේ. බුදුරජාණන් වහන්සේ මේ ධ්‍යාන විස්තරය පරිපූර්ණව කරලා තියෙනවා. ඒකෙ අඩුසපුරන්න එකක් නෑ. අද මනුස්සයාට වැරදුනේ කොතැනද, බුදුරජාණන් වහන්සේ දේශනා කරපු මේ භාෂිතය තුළ හිත් පහන් කරගෙන සෑහෙන්න බැරිව ගියා. ධ්‍යාන ගැන මීටත් වඩා මොනවාහරි තියෙනවාද කියලා එක එක්කෙනා ගැන හොයන්න ගියා. එතකොට තමන්ගේ හිතළු කියන තමන් කෙනෙක් වෙන්න කැමැති ශාස්තෘන් වහන්සේ ගැන ශ්‍රද්ධාවක් නැති හිස් මිනිස්සුන්ගේ වචනවලට අහුවෙලා ගියා. මාරයාගේ වසඟයට ගියපු අර තුන්වෙනි ශ්‍රමණ පිරිස වගේ. මුව වැද්දාට අහුවෙච්චි තුන්වෙනි මුවරංචුව වගේ, ඒ මිනිස්සු අසරණ වෙලා යනවා. නොයෙක් නොයෙක් දෘෂ්ටි වලට යනවා. නොයෙක් දෘෂ්ටි කතා කරන අය පින්වතුනේ අදත් කොච්චර ඉන්නවාද, තමන් රහත් වුනාය කියලා බුදුරජාණන් වහන්සේගේ ප්‍රතිවිරුද්ධ අධර්මයක් කියන අය ඉන්නවා. තමන් මාර්ගඵල ලැබුවාය කියලා අධර්මය කියන අය ඉන්නවා. ස්ත්‍රීනුත් බුදුවුනාය කියාගෙන

බොරු බේගල් දෙසාබාන අය ඉන්නවා. ඔක්කෝටම අහුවෙවී යනවා. අහුවෙන්න හේතුව හරියට ශ්‍රාවකත්වයට එන්න බැරිවීමයි. ඒ නිසා මේ බණ පද කියන අතරේ ඔබට මේ කරුණු කියන්නෙ ඒ අයට ගරහන්න නෙවෙයි. ඒ හිස් පුද්ගලයින්ට ගරහන්න දෙයක් නෑ, ඔවුන්ගේ ගැරහීම ඔවුන් විසින්ම හදාගෙන ඉවරයි. ඔවුන්ගේ විනාශය ඔවුන්ම සකසාගෙන ඉවරයි. ආයෙ අපි අමුතුවෙන් ගරහන්න දෙයක් නෑ. නමුත් පින් තියෙන මනුස්සයෙකුට මේ කියන කාරණය තේරුම් ගත්තොත් රැකෙන්න පුලුවන්. ඒ නිසා මේ කාරණය ඔබට මේ බණ පදයක් කියන අතරේ පහදන්නේ හරියට අපිට වැදගත්ම දේ පින්වතුනි අපේ ශ්‍රාවකත්වය හදාගන්න එක. බුදුරජාණන් වහන්සේ වදාළ වචනය තුළ හිත් පහන් කරගෙන ආරක්ෂාව හදාගන්න එක. බුදුරජාණන් වහන්සේ දේශනා කලා මහණෙනි, මාරයාට දකින්න බැරි තැන කියලා කියන්නෙ පළවෙනි ධ්‍යානය. දෙවෙනි ධ්‍යානය, තුන්වෙනි ධ්‍යානය, හතරවෙනි ධ්‍යානය සුකස්ස ච පහානා දුක්කස්සච පහානා - සැපයත් ප්‍රහාණය කොට දුකත් ප්‍රහාණය කොට ද්වෙච සෝමනස්ස දෝමනස්සානං අත්තංගමා - කලින්ම සොම්නස් දොම්නස් දෙකම අත්හැරලා අදුක්ඛං අසුඛං උපෙක්ඛා සති පාරිශුද්ධිං - සැපයත් නැති දුකත් නැති පිරිසිදු උපෙක්ෂාව විතරක් ඇති, චතුත්ථං ධ්‍යානං උපසම්පජ්ජ විහරති - හතරවෙනි ධ්‍යානය උපද්දගන්නවා. ඒ ධ්‍යානය කියන්නෙ මාරයාට වැලි ගැසීම. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා මහණෙනි, ඔය විදියට රූප ධ්‍යානය ඉක්මවා ගිහිල්ලා අරූප ධ්‍යානත් උපදවනවා, ආකාසානඤ්චායතනය, විඤ්ඤානඤ්චායතනය, ආකිඤ්චඤ්ඤායතනය, නෙවසඤ්ඤානාසඤ්ඤායතනය මේ විදියට අනුපිළිවෙලින් මේ භික්ෂුව අරූප ධ්‍යාන හතර උපද්දනවා කියලා කියන්නෙත් අන්දමකාසි මාරං - මාරයාගේ ඇස් අන්ධ කිරීම. අර්හත්වයට පත්වෙච්චි භික්ෂූන් වහන්සේ සමවදිනවා, සඤ්ඤාවේදයිත නිරෝධ සමවතට. නිරෝධ සම්පත්තිය කියලා කියන්නේත් මරුගේ ඇසට වැලි ගැසීමයි. ඉතින් ඔන්න ඔය විදියටයි බුදුරජාණන් වහන්සේ ආරක්ෂා වීම ගැන ධර්මය දේශනා කලේ. ඉතින් මේ ධර්මයන් දේශනා කරනකොට නුවණ තිබ්බ පින් තිබ්බ අය ආරක්ෂා වුනා. ගුත්තා තෙරණිය කියලා කියන්නෙත් එහෙම රැකිච්චි කෙනෙක්. බුදුරජාණන් වහන්සේ ඇයට වදාළානෙ. ගුත්තා මේ සත්ත්වයො රැවටෙන්නේ හිතටමයි. මාරයාගේ අරමුණු වලම ඇලිලා වාසය කරනවා. සත්‍යය තත්වය පේන් නෑ. අන්තිමේදී සිද්ධ වෙන්නෙ නොයෙක් ජීවිත වල ඉපිද ඉපිද සංසාරෙට යන්න විතරමයි, ඒ නිසා ගුත්තා බේරෙන්න කිව්වා. එතකොට මේ ගුත්තා කියන

තෙරණින් වහන්සේ මේක හොඳට හිතට අරගත්තා. අරගෙන වීර්යය වැඩුවා. වීර්යය වඩලා ඈ අනුපිළිවෙලින් ධර්ම මාරගයේ දියුණුව කරා ගියා. මාරයාගේ ඇසට වැලි ගැසීම කියන එක ඈ පිළිවෙලින් කලා. පළවෙනි ධ්‍යානය ඉපැද්දුවා, දෙවැනි ධ්‍යානය ඉපැද්දුවා, තුන්වෙනි ධ්‍යානය ඉපැද්දුවා, හතරවෙනි ධ්‍යානය ඉපැද්දුවා, අරූප ධ්‍යාන හතරම ඉපැද්දුවා, අවසානයේ ඈ සියලු කෙලෙස් ප්‍රහාණය කල රහත් තෙරණින් වහන්සේ නමක් බවට පත්වුනා. ඒ අර්හත්වයට පත්වෙනකොට එය සිද්ධ වෙච්චි පිළිවෙලත් ඒ උත්තමාවිය තමන් වහන්සේ පිරිනිවන් පාන්න ආසන්න සමයේදී අනික් භික්ෂුණීන් වහන්සේලාට මෙන්න මේ විදියට කියලා දුන්නා. කාමාසාව තරහා සක්කාය දිට්ඨිය, සීලබ්බත පරාමාස විචිකිච්ඡා කියන මේ පහ, මේ සංයෝජන පහ ප්‍රහාණය කරගත්තාට පස්සෙ ඒ භික්ෂුණිය මේ කාම භවයට උපතක් කරා එන්නෙ නෑ. මේ මොනවාද, මේවාට කියනවා පින්වතුනේ ඕරම්භාගිය සංයෝජන. ඕරම්භාගිය සංයෝජන කියලා කියන්නෙ කාමාසාව, ඊළඟට තරහ එහෙම නැත්නම් පටිගය, ඊළඟට සක්කාය දිට්ඨිය, ඊළඟට සීල ව්‍රත - සීලබ්බත පරාමාස, ඊළඟට දහම සැක කිරීම විචිකිච්ඡා. ඔන්න ඔය පහට කියනවා ඕරම්භාගිය සංයෝජන. ඕරම්භාගිය සංයෝජන වල ස්වභාවය තමයි එයාව කාමලෝකයට ඇදබැඳ තියාගන්නවා. කාමලෝකයට බැඳෙන්නේම ඕරම්භාගිය සංයෝජන වලින්. කෙනෙක් ධර්ම මාර්ගයේ අනුපිළිවෙලින් ඉස්සරහට යනකොට ඔය ඕරම්භාගිය සංයෝජන අනුක්‍රමිකව සිඳෙනවා, තුනීවෙනවා. කෙනෙක් සෝතාපන්න ඵලය සාක්ෂාත් කරනකොට මේ නිවන් මගට පැමිණෙනකොට ඕරම්භාගිය සංයෝජන වලින් සංයෝජන ධර්ම තුනක් සම්පූර්ණයෙන්ම නැසී යනවා. සක්කාය දිට්ඨිය, විචිකිච්ඡාව, සීලබ්බත පරාමාසය. මේ සංයෝජන ධර්ම තුන නැතිවෙච්ච ගමන් නිරයේ උපදින්න හේතුවෙන පාපකර්ම සිද්ධ වෙන ස්වභාවය සම්පූර්ණයෙන් නවතිනවා. නිරයේ උපදින්න හේතුවෙන කිසිම පව්කමක් කෙරෙන් නෑ. නිරය කරා අරගෙන යන, සතර අපායට අරගෙන යන කිසිම කර්මයක් කෙරෙන් නෑ එයාගේ අතින්, ඔය සංයෝජන තුන ඡේදනය වීමත් එක්ක. බලන්න රැකවරණය. පින්වතුනි මේ රැකවරණය ධනයකින් ලබන්න පුලුවන් ද. මේ රැකවරණය දේපල සම්පතකින් වෙන දියුණුවකින් ලබන්න පුලුවන්ද. මේ රැකවරණය බුද්ධ ශාසනයේ විතරයි. බුද්ධ ශාසනය තුළ මේ පරම සත්‍යය වූ නිර්මල වූ පාරිශුද්ධ සද්ධර්මයේ ඉතාම සැදැහැ සිතින් හැසිරෙන කෙනාට ඒ සංයෝජන ධර්ම සිඳ බිඳ දාන්න පුලුවන්. සෝතාපන්න වෙද්දීම සතර අපා බය සම්පූර්ණයෙන්ම නැතිව යනවා. සකදාගාමී වෙද්දී

අනික් සංයෝජන ධර්ම දෙක, කාමාසාව සහ තරහා කියන දෙක තුනී වෙනවා. දුරු වෙන් නෑ. කෙනෙක් අනාගාමී වෙනකොට ඔය සංයෝජන ධර්ම පහම සම්පූර්ණයෙන් නැතිව යනවා. එහෙම කෙනා ආයෙ කාමලෝකයට එන්නෙ නෑ කියනවා. රූප රාග, අරූප රාග, මාන, උද්ධච්ච, අවිජ්ජා කියන මේ සංයෝජන පහක් නැති කරගෙන සියලු දුක් අවසන් කරන්න පුලුවන්. ඒවාට කියනවා උද්ධම්භාගිය සංයෝජන. උද්ධම්භාගිය සංයෝජන කියලා කියන්නෙ අනිකුත් සසරට බැඳ තබන බන්ධන. උද්ධම්භාගිය සංයෝජන පහ නැත්තටම නැතිවෙන්නෙ රහතන් වහන්සේටයි. ඒ රහතන් වහන්සේ ඔය සංයෝජන පහ නැති කරාට පස්සෙ සියලු දුක් අවසන් කරනවා. ඉපදෙන සංසාරය ගෙවලා දාලා පුනර්භවය පිරිසිඳ අවබෝධ කරගෙන මේ ජීවිතයේදීම තණ්හාව නැති කරගෙන උපශාන්තව හැසිරෙනවා. ඉතින් ඒ විදියටයි ඒ රහත් තෙරණින් වහන්සේ ගුත්තා රහත් තෙරණින් වහන්සේ අනිත් භික්ෂුණීන් වහන්සේලාට අවවාද අනුශාසනා කලේ, භාග්‍යවතුන් වහන්සේ වදාළ පිළිවෙලටම ධර්ම මාර්ගය අනුගමනය කරන්න අනුපිළිවෙලින් සංයෝජන සිඳගෙන නිවන කරාම යන්න කියන පණිවිඩය. ඒ නිසා පින්වතුනේ මේ කාමයන් මුල් කරගෙන නොයෙක් විනාශයන් කරා යන ලෝකෙක, මේ කාම ලෝකය ඇතුලේ කාමය නිසාම ලෝකයට කොච්චර විනාශ කොච්චර අර්බුද හටගන්නවාද කියන එක අපිට මේ නොයෙක් මාධ්‍ය ආදී බලනකොට පේනවා. මිනිස්සු කාමයන්ගේ යථා ස්වභාවය තේරුම් නොගැනීම නිසා. ආස කරන රූප පස්සේම මුසපත් වෙලා ගිහිල්ලා විනාශ වෙනවා. මේ ජීවිතේත් විනාශය. ඒක පරලොවටත් විනාශය. සංසාර ගමනටම විනාශය. ඊළඟට මිනිස්සු ආස කරන හඬවල් හොයාගෙන ආසා කරන ගඳ සුවඳ, ආසා කරන රස, ආසා කරන පහස මේවා නිසා කොච්චර ජීවිත විනාශ කරගන්නවාද. එහෙම ජීවිත විනාශ කරගන්න ප්‍රජාවක් අතරේ අපිට මේ ජීවිතයට සත්‍ය කතාව අහන්න ලැබෙනවා කියන්නෙ මහා භාග්‍යයක්. අද මේ දේශනාවට දායකත්වයන් දරනු ලබන්නේත් මේ පරම සත්‍යය අහන්න ලැබිච්චි පින්වතුන්ලා පිරිසක්නෙ. තමන්ගේ ආදරණීය මෑණියන්ගේ ජන්ම දිනය යෙදෙනකොට මේ ජන්මදිනය නිමිත්තෙන් නිසරු දෙයක් නොකොට සාරවත් අමෘත වූ සද්ධර්මය දායාද කරන්න ඕනා කියලා ඒ පින්වතුන්ලා කල්පනා කලේ මේ දහම ගැන තියෙන ප්‍රසාදය නිසානෙ. ඒ නිසා ධර්මය ගැනම හිත පහදවාගන්න. ධර්මයෙන්මයි අපේ ජීවිත වලට සැනසිල්ලක් සුවයක් ශාන්තියක් සැපයක් හැබෑවටම උදා කරන්නෙ. ඒක හොඳටම පසක් වෙනවා, මේ රහතන් වහන්සේලාගේ චරිතාපදාන අහද්දි, රහත් තෙරණින්

වහන්සේලාගේ චරිතාපදාන අහද්දි. දැන් බොහෝ කාලයක පටන් ඔබට මේ දහම් දේශනා මාලාව ශ්‍රවණය කරන්න ලැබෙන්නෙ. මං හිතන්නෙ මුල ඉඳලාම මේ පින්වතුන්ලා ශ්‍රවණ කලා නම් මේ වෙද්දි නිකෙලෙස් ජීවිත ගණනාවක් ගැන අහන්න ඔබට වාසනාව ලැබුනා. කෙලෙස් සහගත මිනිස්සු ගැන, කෙලෙස් සහගත ලෝකය ගැන කෝච්චරවත් අහන කන් වලින් නිකෙලෙස් ජීවිතයක් ගැන අහන්න ලැබීමත් කොච්චර සැනසිල්ලක්ද, ඒ නිසා පින්වතුනේ අපි හිත පහදවාගනිමු. ගුත්තා නමින් මේ සම්බුද්ධ ශාසනයේ අමා නිවනට පත්වෙච්චි ඒ රහත් තෙරණින් වහන්සේට නමස්කාර කරමින් වන්දනා කරමින් අපිත් අධිෂ්ටානයක් ඇති කරගනිමු ලොව්තුරා භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ නිර්මල පාරිශුද්ධ ශ්‍රී සද්ධර්මය මුණගැහිච්චි මේ මනුස්ස ජීවිතේ තෙරුවන් සරණ යන්න ලැබිච්චි මේ මනුස්ස ජීවිතේ අපිටත් ඒ තෙරුවන් සරණේ පිහිට සදාගෙන කල්‍යාණ මිත්‍ර ඇසුරේ සුවසේ පින් පුරාගෙන සුවසේම ගුණ ධර්ම දියුණු කරගෙන මේ ගෞතම ශාසනය තුළ ධර්ම මාර්ගය ඉතා හොඳින් දියුණු කරගෙන රහතන් වහන්සේලා සැනසුනු, රහත් තෙරණින් වහන්සේලා සැනසුනු නිවනේ සැනසෙන්න අප හැමදෙනාටත් වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!!

අප විසින් රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අනුමෝදන් කරමු අපි සියලු දෙවිවරුන්ට, සියලු දෙවියෝ සතුටු සිත් උපදවාගෙන අප රැස් කල සියලු පින් අනුමෝදන් වෙත්වා. සක්දෙවිඳුන්ට, සතරවරම් දෙවිවරුන්ට, සෙන්පති දෙවිවරුන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. අප හැමදෙනාගේම ඉෂ්ටකාමී වූ හිතකාමී වූ සියලු දෙවියෝත් පින් අනුමෝදන් වෙත්වා. මේ ලංකා භූමිය සුරකින ශ්‍රීමත් සුමන සමන් දෙවි දේවතාවුන් ප්‍රධාන සියලු දෙවි දේවතාවුන් පින් අනුමෝදන් වෙලා දෙවියෝ දිව්‍ය සැපයෙන් වැඩේවා. ඒ හැමදෙවියන්ගේ ආශිර්වාදයත් උපකාරයත් රැකවරණයත් අප සියලුදෙනා හට දෙවියෝ නිරන්තරයෙන් නොඅඩුවම සලසා දෙත්වා. සියලු දෙවියන්ට සසර දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කල මේ උදාරතර පුණ්‍ය ධර්මයන් අප හැමදෙනාගේම කල්‍යාණමිත්‍ර ගුරුදේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. ගුරු දේවයන් වහන්සේ නිදුක් නිරෝග සුව ලබත්වා. චිර ජීවන සම්පත්තිය ලබත්වා. ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!! අද ධර්ම දානය සිද්ධ කරන ඒ පින්වන්ත දූදරුවන්ගේ ප්‍රධාන අරමුණ වන්නේ දෙහිවල නිකපේ විජයාරාම

මාවතේ පදිංචිව සිටින අද දවසේ 83 වන ජන්ම දිනය යෙදුනු පිනවත් ජී.එස්. පයාගල මැණියන්ට ආශිර්වාද සෙත් ප්‍රාර්ථනා සිදු කිරීම. ඉතින් ඒ පින්වත් ජී.එස්. පයාගල මැණියන්ට මේ සියලු පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදය, උතුම් බුද්ධ රත්නයේ, ධර්ම රත්නයේ සංඝරත්නයේ ආශිර්වාදය, පින් අනුමෝදන්ව සතුටු වෙන සියලු දෙවි දේවතාවුන් වහන්සේලාගේ ආශිර්වාදය නිරන්තරයෙන් ජිවිතයට සැලසේවා. නිදුක් නිරෝග සුවපත් භාවය, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. මැණියන්ට ගෞතම ශාසනය තුළම සුවසේම ධර්මාවබෝධයෙන් සැනසෙන්න වාසනාව ලැබෙන්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් ධර්ම දානය සිදු කරන ඒ සුපින්වත් හැමදෙනාගේ නමිනුත්, පින්වත් ජී.එස්. පයාගල මැණියන්ගේ නමිනුත් මියපරලොව යන්න යෙදුනු සියලූ ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට අනුමෝදන්ව ඥාතීන්ගේ පරලොව ජිවිතය සැපයට පත්වෙත්වා, ඥාතීනුත් දුක් සහිත සසර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනාව සිදු කරන්න. ජී.එස්. පයාගල මැණියන්ගේ අක්කා වන පින්වත් ජී.ජී. චන්ද්‍රවතී මැණියන්ට පින් අනුමෝදන් වෙත්වා. අද දායකත්වය දැරූ ඒ පින්වත් හැමදෙනාට, පවුලේ සියලු දෙනාට පින් අනුමෝදන් වෙලා ඒ සියලු දෙනා කරන කියන රැකී රක්ෂා ආදිය දූදරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදිය සර්වප්‍රකාරයෙන් සඵල වේවා. ජීවිත වලට සියලු යහපත, සියලු අභිවෘද්ධිය, සියලු සුවය යහපත උදාවේවා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලා හැමදෙනාටත්, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සෑම සියලු දෙනාටත්, ඒ වගේම සුපින්වත් ඔබ හැමදෙනාටත් මේ දුර්ලභ මනුස්ස ජීවිතේ ලැබිච්චි උතුම් කල්‍යාණමිත්‍ර ඇසුර, සුවසේ පින් කරගන්නත් සුවසේම ගුණදහම් දියුණු කරගන්නත් අවකාශ සැලසෙත්වා. ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න හැමදෙනා හට වාසනාව ලැබෙත්වා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=Y-hE7mlxbfc

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අපි කවුරුත් සරණ ගිය සුගත තථාගත අපගේ ගෞතම අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ, ඒ මහා කාරුණික බුදුරජාණන් වහන්සේ එක අවස්ථාවක දේශනා කලා නාහං භික්ඛවෙ අඤ්ඤං ඒකබලංපි සමනුපස්සාමි - පින්වත් මහණෙනි තථාගතයන් වහන්සේ උතුම් බුදු ඇසින් වෙන එකම එක බලයක්වත් දකින්නෙ නෑ, යං ඒවං අප්පස්සහං - මෙච්චර මැඩලන්න දුෂ්කර. යත ඉදං භික්ඛවෙ මාරබලං - මාරයාගේ බලය තරම් මැඩලන්න දුෂ්කර බලයක් මේ ලෝකයේ බුදු ඇසින් වෙනත් දකින් නෑ කිව්වා. දුෂ්කර බලය මාරයාගේ බලය. හැබැයි ඒ මාර බලය සිද බිදලා ලොව්තුරා සම්මා සම්බුද්ධ රාජ්‍යයයට පත්වුනේ මේ මහා භද්‍ර කල්පයේ සතරවෙනි සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෙස ගෞතම නමින් සම්බුද්ධත්වයට පත්වුනේ අපගේ භාග්‍යවත් අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ. අපේ ශාස්තෘන් වහන්සේ. බුදුරජාණන් වහන්සේ ශ්‍රී සම්බුද්ධත්වය සාක්ෂාත් කල නිසා බුදුරජාණන් වහන්සේ ලෝකයෙන් නිදහස් වෙන ඒ වැඩපිළිවෙල අවබෝධ කොට වදාළ නිසා බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක භාවයට පත්වෙන නුවණැති හැමදෙනාට අවකාශ උදාවුනා සසර දුකින් නිදහස් වෙන වැඩපිළිවෙලට එන්න. මාරයාගේ බලය පරාජයට පත් කරලා උතුම් රහතන් වහන්සේලා බිහිවුනා. මාරයාගේ බලය පරාජයට පත්කරලා උතුම් රහත් තෙරණින් වහන්සේලා බිහිවුනා, බුදුරජාණන් වහන්සේගේ ධර්මය නිසා. පින්වතුනි අපගේ මේ ලංකා ධරණී තලයට ශ්‍රී සම්බුද්ධ ශාසන දායාදය රැගෙන අනුබුදුවරයන් වහන්සේ ලෙස වැඩම කරපු මිහිඳු මහරහතන් වහන්සේත් ඒ මාර බලය පරාජයට පත් කරලා ලෝකය මැඩලන්න දුෂ්කර බලය පරාජයට පත් කලා, බුදුරජාණන් වහන්සේගේ ධර්මය නිසා. මේ ලංකා ධරණී තලයට මහා යහපතක් සැලසූ සංඝමිත්තා අර්හත් තෙරණින් වහන්සේ මාර

බලය මැඩලුවා, බුදුරජාණන් වහන්සේගේ ධර්මය නිසා. ඉතින් අද අහන්න සූදානම් වෙන්නෙත් ඒ භාග්‍යවතුන් වහන්සේගේ ඒ උතුම් සද්ධර්මය, ධර්ම දේශනාවට දායකත්වයන් දරන ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් රෝහණ පතිරගේ මහතා ඇතුලු ඒ පවුලේ සියලු දෙනාත් කල්‍යාණමිත්‍රයන් සෑම සියලු දෙනාත් ඒ අයගේ පවුල් වල සෑම සියලු දෙනාත් අද ධර්ම දානය සිද්ධ කරලා බලාපොරොත්තු වෙනවා භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ පිරිසිදු උතුම් ශ්‍රී සද්ධර්මය ශ්‍රී ලංකාවට දායාද කල අපගේ උතුම් අනුබුදු මිහිදු මහරහතන් වහන්සේ සහ සංඝමිත්තා මහරහත් තෙරණින් වහන්සේ ඇතුළු පිරිනිවන් පා වදාළ උතුම් මහරහත් උත්තම උත්තමාවියන් උදෙසා මේ ධර්ම දේශනාව උපහාර පූජාවක්ම වේවා කියන අදහසිනුයි අද ධර්මය ශ්‍රවණය කරන්නෙ. මරුගේ බලය පරාජය කළ මහරහත් තෙරණින් වහන්සේ නමක් ගැන අදත් අපි අහනවා. ඒ තෙරණින් වහන්සේගේ නම විජයා, විජයා මහරහත් උත්තමාවිය. මේ විජයා මහරහත් තෙරණින් වහන්සේගේ ගිහි ජීවිතය ගත්තොත් ඒ උත්තමාවිය ඛේමා බිසවගේ සමීපතම යෙහෙළියක්. ඛේමා බිසව ගැන පින්වතුන්ලා ඇසුවානෙ මේ දහම් දේශනාවෙදිම. ඛේමා මහරහත් තෙරණින් වහන්සේ ගැන. බිම්බිසාර මහරජ්ජුරුවන්ගේ රාජ මහේෂිකාව. මේ බුද්ධ ශාසනයේ ඈ මහරහත් භාවය පසක් කලේ ගිහිවස්ත්‍ර පිටින් සිටියදීම. බුදුරජාණන් වහන්සේ අභිමුඛයේ පළවෙනි බණ පදය අහනකොට ඒ බණ පදය අවසන් වෙද්දීම ඛේමාව අර්හත්වය  පසක් කලා. අර්හත්වයට පත්වෙලයි ඈ භික්ෂුණී සංඝයා අතරේ පැවිදි වුනේ. පැවිදි වුනාට පස්සෙ මේ බුදු සසුනේ අගතනතුර ලැබුවා ප්‍රඥාවෙන් අග්‍ර භික්ෂුණිය. මේ බුදු සසුනේ ගෞතම බුදුරජාණන් වහන්සේගේ අග්‍ර ශ්‍රාවිකාව බවට පත්වුනෙත් ඛේමා මහරහත් උත්තමාවිය. අන්න ඒ ඛේමා මහරහත් උත්තමාවියගේ ගිහි කල පටන් සමීපතම මිතුරිය, මේ විජයා. ඉතින් විජයාවට ආරංචි වුනා තමන්ගේ මිතුරිය වන ඛේමා බුද්ධ ශාසනයේ පැවිදි වුනා කියන කතාව. ඉතින් එතකොට ඈත් ආසා කලා ඒ ඛේමාව මුණගැහිලා බුද්ධ ශාසනයේ පැවිදි වෙන්න හේතුව මොකක්ද කියලා අහගන්න. මේ බුදුසසුනේ පැවිදි වෙන්න හේතුව මොකක්ද? අච්චර රාජකීය සම්පත්තියක් කෙළ පිඩක් වගේ අතහරින්න හේතුව මොකක්ද? රූපය ගැන හරී ආසාවක් තියෙන, රූපයට ලොල් රූපය හැඩ කර කර සතුටු වෙන මගේ මිතුරී එකපාරම කේශකලාපය ඉවත් කරලා, අර සැරසෙන වස්ත්‍රාභරණ ඉවත් කරලා පැවිදි වුනේ මොකෝ කියලා හිතක් විජයාට උපන්නා. ඉතින් විජයා ඛේමා භික්ෂුණීන් වහන්සේ හොයාගෙන

එනවා. එතකොට ඛේමා මහරහත් උත්තමාවිය මේ විජයා කියන ගිහිකල මිතුරියට බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය කියාදුන්නා. හිත පැහැදුනා. නිතර නිතර බණ අහන්න එන්න පටන් ගත්තා. කාලයක් බණ අහනකොට ඒ ධර්ම දේශනාව අවසානයේ, ඒ දහම් කතා අවසානයේ ඇටත් හිතක් උපන්නා මාත් බුද්ධ ශාසනයේ පැවිදි වෙන්න ඕන කියලා. බලන්න කල්‍යාණමිත්‍ර ආශ්‍රයක, සත්පුරුෂ ආශ්‍රයක යහපත නේද? සත්පුරුෂයෙක් ඇසුරු කලොත් කල්‍යාණමිත්‍රයෙක් ඇසුරු කලොත් යහපතට මග පෙන්වන කෙනෙක් ඇසුරු කලොත් ඒ ඇසුර නිසා සැලසෙන සෙත. විජයාත් බුද්ධ ශාසනයේ පැවිදි වුනා. පින තිබුනු නිසා සංසාරයේ පින් රැස් කරලා තිබුනු නිසා පැවිද්දට බාධා වුන් නෑ. පැවිදි වුනා. හැබැයි පැවිද්දට පත්වුනාට පින්වතුනේ ඇයට හරි අමාරු වුනා මේ පැවිද්ද තුළ හිත අලවාගෙන වාසය කරන්න. ඒ ගැන විජයා තෙරණිය ගාථා වලදි මෙන්න මෙහෙම කියනවා. මට චිත්ත සමාධියක් තිබුනේම නෑ. සිතේ දමනයක් තිබුනේම නෑ. මං හතර පස් වතාවක් ආරාමයෙන් නික්මිලා ගියා. ඇයට චිත්ත දමනයක් නැතුව සමාධි සුඛයක් නැතිව කුසලයක් තුල හිත තියාගෙන වාසය කරන්න බැරිව ඇය හරි වෙහෙසට පත්වුනා. නිතර නිතර ආරාමයෙන් පිටත් වෙලා ව්‍යක්ත භික්ෂුණීන් වහන්සේලා, වැඩිහිටි භික්ෂුණීන් වහන්සේලා හොයාගෙන ගියා බණ පදයක් අහගෙන හිත සංසිඳවගන්න. ඉතින් දහම් කතාවට ආස නිසා දහම් දේශනා අහගෙන ඉන්නකොට හිත සංසිඳෙනවා. සංසිඳුනාට මොකෝ ටික වෙලාවයි, ආයෙ තිබ්බා වගේම ඇවිස්සෙනවා. ඉතින් එතකොට අවසානයේ ඇය කියනවා, අන්තිමේදී මං ඛේමා භික්ෂුණිය ළඟට ගියා. මං හොදට ධර්ම කරුණු විමසා දැනගත්තා. ඇය මට ධාතු ආයතන ගැන ධර්ම දේශනා කලා. ඛේමා මහරහත් තෙරණින් වහන්සේ මේ ජීවිතේ ගැනධාතු වශයෙන්, මේ ජීවිතේ ගැන ආයතන වශයෙන් ධර්මය කියලා දුන්නා. ජීවිතය ගැන ධාතු වශයෙන්, ආයතන වශයෙන් දකිනවා කියලා කියන්නෙ විදර්ශනාව. මේ ජීවිතයේ සම්මුතියෙන් ඔබ්බට ගිහිල්ලා විදර්ශනා වශයෙන් සිහි කරන්නේ ධාතු වශයෙන්, ආයතන වශයෙන්, පංචුපාදානස්කන්ධ වශයෙන්, පටිච්ච සමුප්පාද වශයෙන් මෙහෙම සිහි කරනවා. එතකොට ධාතු වශයෙන් සිහි කිරීම ගැන ඛේමා මහරහත් තෙරණින් වහන්සේ ලස්සනට පහදලා දුන්නා. මේ ජීවිතේ කියලා කියන්නෙ ධාතු හයක්. පඨවි ධාතු, ආපෝ ධාතු, තේජෝ ධාතු, වායෝ ධාතු, ආකාස ධාතු, විඤ්ඤාණ ධාතු. මේ ධාතු හය තමයි ජීවිතේ කියලා කියන්නෙ. ජීවිතේ ඒ විදියට විදර්ශනා කරන්න පුලුවන් ධාතු වශයෙන්. ඊළඟට මේ ජීවිත පැවැත්ම කියලා කියන්නෙ

ආයතන හයක පැවැත්ම. ඇස කණ නාසය දිව කය මනස කියන ආයතන. මේ ධාතු ගැන ආයතන ගැන විදර්ශනා වඩන විදිය ලස්සනට පහදලා දුන්නා ඛේමා මහරහත් භික්ෂුණිය. උතුම් නිවන කරා යන ඒ චතුරාර්ය සත්‍ය ධර්මය, පන්චඉන්ද්‍රිය, පංච බල, සප්ත බොජ්ඣංග, ආර්ය අෂ්ටාංගික මාර්ගයත් ඒ උත්තමාවිය දේශනා කලා. නිවන් මග. නිවන් මග ගැන හරි ලස්සනට පහදලා දුන්නා. මාරයාව පරාජය කරන්න අවශ්‍ය ගුණධර්ම ගැන හරි ලස්සනට පහදලා දුන්නා. මේ ලෝකයට පින්වතුනි ඔය ඔක්කොම දේශනා කලේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ. ඒක පුග්ගලො භික්ඛවෝ පාතුභාවො - භාග්‍යවතුන් වහන්සේ වදාළා මහණෙනි එකම එක පුද්ගලයෙකුගේ පහළ වීම නිසා මේ ලෝකයට මහත් වූ, ආලෝකස්ස පාතුභාවො - මහත් වූ ආලෝකයක් පහළ වන්නේය. මහත්ථො චක්ඛුස්ස පාතුභාවො - මහත් වූ ඇසක් පහළ වන්නේය. මහතො ඕභාසස්ස පාතුභාවො - මහත් වූ ප්‍රභාෂ්වර භාවයක් පහළ වන්නේය. ඡන්නං අනුත්තරියානං පාතුභාවො - ජීවිතයක් ශ්‍රේෂ්ටත්වයට පත් කරවන අනුත්තරීය අංගයෝ හයක් පහළ වන්නේය. දස්සනානුත්තරීය, සවනානුත්තරීය, ලාභානුත්තරිය, සික්කානුත්තරිය, පාරිචරියානුත්තරිය, අනුස්සතානුත්තරිය කියන අනුත්තරීය ධර්ම මේ ලෝකෙට ලැබෙන්නෙ ඒ එකම එක පුද්ගලයාගේ පහළ වීමෙන්. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා මහණෙනි, පංච ඉන්ද්‍රියේ පහළ වීම වෙයි. පංච බලයන්ගේ පහළ වීම වෙයි. සතර ඍද්ධි පාදයන්ගේ පහළ වීම වෙයි. සතර සතිපට්ඨානයන්ගේ පහළ වීම වෙයි. සතර සම්‍යප්‍රධාන වීර්යයන්ගේ පහළ වීම වෙයි. සප්ත බොජ්ඣංගයන්ගේ පහළ වීම වෙයි. ආර්ය අෂ්ටාංගික මාර්ගය පහළ වීම වෙයි. ඒ හැමදේම. ඊළඟට භාග්‍යවතුන් වහන්සේ වදාළා සෝතාපන්න පුද්ගලයාගේ පහළ වීම වෙයි. සකදාගාමී පුද්ගලයාගේ පහළ වීම වෙයි. අනාගාමී පුද්ගලයාගේ පහළ වීම වී ක්ෂීණාස්‍රව රහතුන්ගේ පහළ වීම වෙයි, එකම එක පුද්ගලයෙකු නිසා. කත මො ඒක පුග්ගලො? කවුද ඒ එකම එක පුද්ගලයා? තථාගතො අරහතො සම්මා සම්බුද්ධො - තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ පහළ වීම. පින්වතුනේ අපි බුද්ධං සරණං ගච්ඡාමි කියලා සරණ ගියේ ඒ බුදුරජාණන් වහන්සේ. ඒ බුදුරජාණන් වහන්සේ පහළ වුනු නිසා තමයි මේ ඔක්කොම. භාග්‍යවතුන් වහන්සේ පහළ වී ලෝකයට මැනැවින් චතුරාර්ය සත්‍යය දේශනා කොට වදාළ නිසා ජීවිතයක් පරිපූර්ණ වශයෙන් සැපයට පත් කරන උතුම් ගුණ වන පංචඉන්ද්‍රිය, ශ්‍රද්ධා විරිය සති සමාධි ප්‍රඥා කියන ඉන්ද්‍රිය. ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, ප්‍රඥා කියන පංච බල,

සති ධම්ම විරිය පීති පස්සද්ධි සමාධි උපෙක්ඛා කියන සප්ත බොජ්ඣංග. සම්මා දිට්ඨි, සම්මා සංකල්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි වශයෙන් පවතින ආර්ය අෂ්ටාංගික මාර්ගය බුදුරජාණන් වහන්සේ දේශනා කරපු නිසා භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයෝ පැහැදිලි නිවන් මග ජීවිතයට සැප සලසන උතුම් නිවන් මග ආරක්ෂා කරගෙන ආවා. එතකොට බලන්න ශ්‍රාවක භාෂිතය තුළත් ඇහෙන්නේ ඒ මගමයි. ඛේමා මහරහත් භික්ෂුණිය, විජයා භික්ෂුණියට මේ සියල්ල කියලා දුන්නා. එතුමියගෙන් බුද්ධ වචනය අහගත්ත මං ඒ අනුශාසනාවේ විදියටම කටයුතු කලා. රෑ පළමු යාමයේදී පුබ්බේනිවාස ඥාණය ලබාගත්තා. ඒ බුද්ධ වචනය අනුවම කටයුතු කරනකොට සියලු ගුණදහම් එකින් එක එකින් එක දියුණු වෙනකොට රෑ පළමුයයාමයේදී නිවාස ඥාණය, පළමුවෙනි විද්‍යාව, පෙර ජීවිත ගත කරපු පිළිවෙල දකින ඥාණය ඒ උත්තමාවිය උපද්දගත්තා. රෑ මධ්‍යම යාමයේදී දිවැස් නුවණ පිරිසිදු කරගත්තා. දිවැස් නුවණ කියලා කියන්නෙ දිබ්බචක්ඛු ඥාණය. එහෙම නැත්නම් අපි කියනවා තවත් චුතූපපාත ඥාණය. රෑ පහන් වෙනකොට අවිද්‍යාව නම් වූ අන්ධකාර කෙලෙස් කඳ බිඳලා දැම්මා. අවිද්‍යා කෙලෙස් කඳ සිඳ බිඳ දැමීමට කියනවා ආසවක්ඛය ඥාණය උපද්දගත්තා කියලා. ආසවක්ඛය ඥාණය, ක්ෂීණාස්‍රව රහතන් වහන්සේලාට රහත් තෙරණින් වහන්සේලාට පිහිටන එකක්. මං එතකොට ප්‍රීතියත් සැපයත් කය පුරාම පතුරුවාගෙනයි හිටියේ. අවිද්‍යා අන්ධකාරය බිඳලා දාපු මං හත්වෙනි දවසේ තමයි කකුල් දිග හැරියේ. නිවන පසක් කරගෙන ඒ නිවන් සුඛයේ නිරෝධ සමවතට සමවැදිලා ඒ උත්තමාවිය දින හතක්, දින හතක් නිරෝධ සම්පත්ති සුවයෙන් වැඩ හිටියා. ඒ වැඩ හිඳලා තමයි ඒ උත්තමාවිය තමන් වහන්සේගේ කකුල් දිගහැරියා කියලා කියන්නෙ. ඉතින් කොච්චර සුන්දරයි ද මේ සම්බුද්ධ ශාසනය තුළ පරම ශාන්තියට පත්වෙච්චි ඒ උත්තම උත්තමාවියන්ගේ චරිතාපදාන. ඒවා අහනකොටත් සැදැහැවතුන්ගේ හිත පහන් කරගන්න පුලුවන්, මාරයා පරාජය කරලා මාර විෂය ඉක්මවා ගිහිල්ලා ජීවිතය දිනපු හැටි. ඉතින් එහෙම ජීවිතය දිනපු උත්තමාවියන්ටත් උත්තමයන් වහන්සේලාටත් ඔය වසවර්ති මාරයා කරදර කරන්න ආවානෙ. මේ විජයා මහරහත් තෙරණියගේ චරිත කතාව ඇතුලේත් එහෙම සිද්ධියක් තියෙනවා. ඒ කාලෙ විජයා තෙරණින් වහන්සේ වැඩ හිටියේ සැවැත්නුවර. එදා විජයා භික්ෂුණිය උදය වරුවේ සිවුරු පොරවාගෙන පාත්‍රා සිවුරු අරගෙන සැවැත්නුවර පිඬුසිඟා වැඩම කලා. සැවැත් නුවර ගෙපිළිවෙලින් පිණ්ඩපාතය

වැඩලා ඒ ලැබිච්චි දානය වළඳලා දවල් කාලය ගතකරන්න හිතාගෙන ඒ උත්තමාවිය වැඩම කලා අන්ධ වනයට. අන්ධ වනයේ ඇතුලටම ගිහින් එක්තරා රුක් සෙවණක දවල් කාලෙ තනිපංගලමේ ඒ උත්තමාවිය වාඩි වෙලා ඉන්නවා. දැන් මේ වාඩිවෙලා ඉන්නෙ කෙලෙස් නැසූ දෙවැන්නෙක් නැති පරම නික්ලේශී හදවතක් ඇති රහත් තෙරණියක්. හැබැයි බාහිරට මොකුත් අර්හත්වයක් පේන් නෑ. ඒ උත්තමාවිය වාඩිවෙලා ඉන්නවා විතරක් පේනවා. එතකොට පවිටු මාරයාට මෙන්න මෙහෙම කැමැත්තක් ඇතිවුනා. මේ විජයා භික්ෂුණිය ඉන්නෙ තනිපංගලමේ. තනිපංගලමේ කැලේ ඇතුලේ කාන්තාවක් වාඩිවෙලා. කාන්තාවො කියන්නෙ සුලුදේකටත් බිය ගන්න, සුලුදේකටත් තැතිගන්න පිරිසක්, මං මේ විජයා භික්ෂුණියවත් භය කරවන්න ඕන. තැතිගන්වන්න ඕන, මේ කයේ මවිල් කෙලින් වෙන විදියේ එකක් කරන්න ඕන, එතකොට ආයෙ මේ වනයට ඇවිල්ලා සමාධි සුඛයකින් ඉන්න බැරිවෙයි. ඔය යම් සමාධියක් තියෙනවා නම් සමාධිය බැහැර වෙන විදියේ වැඩක් මං කරන්න ඕන. මාරයා එහෙම හිතුවා. හිතලා මාරයා විජයා භික්ෂුණිය ළඟට යනවා. ගිහිල්ලා විජයා භික්ෂුණියට මෙන්න මෙහෙම කිව්වා. ධාරා ත්වං රූපවතී අහංච ධාරෝ සුසූ පංචංගිකේන තුරියේන ඒහය්යේ අපියමා මසේති - ඒයි ලස්සන තැනැත්ති, ඔයා තාම තරුණයි. මමත් යෞවන වයසේ ඉන්න තරුණයෙක්. එන්නකොට ඉතින් පංචාංගික තූර්ය නාදයෙන් සතුටු වෙමින් අපි දෙන්නා ප්‍රීතියෙන් ඉමුකො කිව්වා. එතකොට මේ භය වද්දන්න ඕන, තැතිගන්වන්න ඕන, ලොමුඩැහැගන්වන්න ඕන කියලා හිතලා මාරයා කරන එක බලන්න. භය ගන්න කරුණක් මවා පෑවෙ නෑ. ලොමුඩැහැගැන්වෙන විදියේ සද්දයක් පහළ කලේ නෑ, මාරයා මොකකින්ද මේ භය ගන්වන්න ලැහැස්තිය? කෙලෙස් වලින්. කෙලෙස් අවුස්සලා. කෙලෙස් අවුස්සලා භය වද්දන්න ලැහැස්තිය. කෙලෙස් ඇවිස්සුනාම හටගන්න භය, සසර භයයි. කෙලෙස් ඇවිස්සෙච්චි සත්වයාට හැමතිස්සේම උරුම වන භය සාංසාරික භයයි. සසරේ යළි යළිත් යළි යලිත් පටලැවී පටලැවී යන්න වෙන භයයි. කෙලෙස් අවුස්සා ගත් සියලු දෙනාට ඒ භය ඇත්තේය. දැන් මාරයා ලැහැස්තිය මේ භික්ෂුණියටත් ඒ ක්ලේශ භය ඇතිකරවන්න. තරුණ වයසේ ඉන්න මේ භික්ෂුණියට තනිපංගලමේ ඉන්න මේ භික්ෂුණියට අයුතු යෝජනාවක් කරනවා ඒ නිසා හැඩකාර කඩවසම් පුරුෂයෙක් විදියට ඇවිල්ලා මාරයා. එතකොට විජයා රහත් භික්ෂුණියට මෙහෙම හිතුනා, කවුද මෙයා, මිනිහෙක්ද, අමනුස්සයෙක්ද, මේ විදියේ ගාථාවල් කියලා නිකං මාව අවුස්සන්න හදන්නෙ. කවරෙක්ද මේ කෙනා.

එතකොට මේ නුවණින් බලනකොට හඳුනාගත්තා මේ තමයි පාපී මාරයා. මාව මේ කෙලෙස් වලින් බිය වද්දන්න තැතිගන්වන්න, මගේ කයේ ලොමු ඩැහැගන්වන්න, මාව සමාධියෙන් තොර කරවන්න හිතාගෙනයි මාරයා මෙහෙම එකක් ඇවිල්ලා මේ කියවන්නෙ. ඉතින් විජයා භික්ෂුණිය ඒ වෙලාවේ පවිටු මාරයා කියලා දැනගෙන පවිටු මාරයාට ගාථා කිව්වා. බලන්න බුදු සසුන. ලෝකයේ මැඩලන්න දුෂ්කරම බලයක් තියෙන කෙනාත් එක්ක රහතන් වහන්සේලා, රහත් තෙරණින් වහන්සේලා කටයුතු කළේ මෙහෙම. බලන්න පවිටු මාරයාට ඒ උත්තමාවිය කියන දේ. රූපා සද්දා රසා ගන්ධා පොට්ඨබ්බා ච මනෝරමා නී යාත යාමි තුය්හෙව මාරනාහං තේනත්තිකා - හිත ඇලෙන රූප ශබ්ද ගන්ධ රස ස්පර්ශ තියෙනවා තමයි, ඒයි මාරය මං ඒවා ඔහේටම දෙනවා, මට එපා. මට ඕවායින් කිසි වැඩක් නෑ කියනවා. මනුස්සයෙක්ගේ හිත වසඟ වෙලා යන, හිත ඇලිලා යන රූප මේ ලෝකෙ තියෙනවා. මනමෝහනීය රූප, සරාගී රූප, ආකර්ශනීය රූප මේ ලෝකෙ තියෙනවා තමා, කන්කළු ශබ්ද මේ ලෝකෙ තියෙනවා තමා, ඉතාම මිහිරි සුගන්ධ මේ ලෝකෙ තියෙනවා තමා, ප්‍රණීත රසත් ලෝකයේ තියෙනවා තමා, ඉතාම සුමුදු මුදු පහස මේ ලෝකෙ තියෙනවා තමයි, මාරය, මං ඔහේටම දෙනවා ඔය ටික. ඔහේම තියාගන්න කිව්වා. මට ඕවාගෙන් වැඩක් නෑ කිව්වා. පින්වතුනේ මේ සාමාන්‍ය තරුණ කාන්තාවකට නම් තරුණ කඩවසම් පුරුෂයෙක් මෙබඳු යෝජනාවක් තනිපංගලමේ කළොත් ඈ ඇවිස්සෙන ස්වභාවයෙන් යුක්තයි. ඇයි එහෙම කියන්නෙ. බුදුරජාණන් වහන්සේ දේශනා කලා මහණෙනි, ස්ත්‍රියගේ හිත ඇදබැඳ ගන්නා රූප අතරේ පුරුෂ රූපය තරම් වෙනත් රූපයක් නැත. ස්ත්‍රියගේ හිත ඇදබැඳ ගන්නා හඬ අතරේ පුරුෂ හඬ තරම් වෙන හඬක් නැත. ස්ත්‍රියගේ හිත ඇදබැඳගන්නා සුවඳ අතරේ මේ පුරුෂයාගේ සුවඳ, පුරුෂ ගන්ධය තරම් වෙන ගන්ධයක් නැත. ස්ත්‍රියගේ හිත හාත්පසින් බැඳගන්නා රස අතරේ පුරුෂ රස තරම් වෙන රසක් නැත. ස්ත්‍රියගේ හිත හාත්පසින් බැඳගන්නා පහස අතරේ පුරුෂ පහස තරම් වෙන පහසක් නැත. සාමාන්‍ය ස්ත්‍රියාවක්, ක්ලේශ වසඟව සිටින ස්ත්‍රියාවක් කරකැවිලා යනවා. හැබැයි කෙලෙස් දුරු කරපු රහත් උත්තමාවිය මාරයාට කියනවා මාරය ඕවාගෙන් මට වැඩක් නෑ නොවැ. මං ඔහේටම දෙනවා, ඔහේම ඒවා තියාගන්න. ඉමිනා පූතිකායේන භින්ද නේන පබංගුණා අට්ටීයාමි හරායාමි කාම තණ්හා සමූහතා - බිඳිලා යන වහා නැසිලා යන මේ කුණු ශරීරය මට එපා වෙලා තියෙන්නෙ. මේ ශරීරය ගැන මට ලැජ්ජයි. මං කාම තණ්හාව මුලින්ම උදුරලා දැම්මා. ඒ රහත් උත්තමාවිය එහෙම

කියනවා. බිඳිලා යන නැසිලා යන කුණු ශරීරය මට එපා වෙලා තියෙන්නෙ. සාමාන්‍ය මනුස්සයෙක් මේ සිරුරට බැඳී සිටිනවා. තමන් තමන්ට බැඳිලා. තමන් තමන්ට ආදරය කරනවා. තමන් වැඩිපුරම ඇලුම් කරන්නෙ තමාටයි. එක දවසක් පසේනදී කෝසල මහරජ්ජුරුවන්ට හිතක් උපන්නා, මේ ලෝකෙ කෙනෙක් ගොඩාක් ආදරේ කාටද? මං කාටද වැඩිපුරම ආදරේ, රජ්ජුරුවො හිතනවා. මං වැඩිපුරම ආදරේ කාටද, මගේ අගබිසව් මල්ලිකාටද, නෑ මල්ලිකාට වඩා ආදරෙයි මං මගේ දූට. මගේ දූ වජිරා. වජිරාටද මං ගොඩාක් ආදරේ. වජිරාත් එක්ක සසඳත්තිත් ඒ ඔක්කොටම වඩා මං ආදරේ මට නොවැ. මහරජ්ජුරුවන්ට එහෙම හිතුනා. මහරජ්ජුරුවො ගිහිල්ලා ඔය සිතුවිල්ල බුදුරජාණන් වහන්සේත් එක්ක කිව්වා. ස්වාමීනී, භාග්‍යවතුන් වහන්ස, මං තනිපංගලමේ ඉන්නකොට මට හිතක් උපන්නා මේ ලෝකයේ මම වැඩිපුරම ආදරේ මටමයි කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා මහාරාජය යම් කෙනෙක් මේ ලෝකයේ උඩයට සරසට හාත්පස බැලුවත් තමන් තමන්ට වඩා ආදරය කරන වෙන කෙනෙක් නම් හොයාගන්න නෑ කිව්වා. තමන් වැඩිපුරම ආදරේ කරන්නෙ තමන්ටයි. තමා තමාට ආදරේ කරනා නිසා තමන් ආදරේ කරන රූප එකතු කරගන්නවා. තමන් ආසා කරන හඬ එකතු කරගන්නවා. තමන් ආසා කරන හඬ රැකගන්න කැප වෙනවා. තමන් ආසා කරන රූප ශබ්ද ගන්ධ රස පහස රැක ගැනීම වෙනුවෙන් ජීවිතේම කැප කරනවා. ඒ තමන්ට ගොඩාක් ආදරේ කරන නිසා. කෙනෙක් පින්වතුනි ජීවිතේ ගැන හොඳට අවබෝධ කරගෙන තමාගේ ජීවිතය මැනැවින් දැක්කා නම් මේ ජීවිතයේ ස්වභාවය මැනැවින් දැක්කා නම් ඒ කෙනා තවත් කෙනෙකුට ඇලුම් කරන් නෑ. ඒ නිසයා මේ ජීවිතේ අවබෝධ කරපු උත්තමාවියො උත්තමයන් වහන්සේලා මේ බාහිර ලෝක කිසිම දේකින් වසඟ කරන්න බැරිව ගියේ. මේ ශරීරය ගැන කියනවා මේක බිඳී යන එකක්, නැසී යන එකක්, මේ කුණු ශරීරය මට එපාවෙලා තියන්නෙ. මේ කුණු සිරුර ගැන මට ලැජ්ජයි. මං කාම තණ්හාව මුලින්ම උදුරලා දැම්මා. යේ ච රූපෝප ගාසත්තා යේ ච ආරුප්පඨායිනො යාච සන්තා සමාපත්ති සබ්බත්ථ විහතො තමො - රූප ලෝකවලත් සත්වයෝ ඉන්නවා. අරූප ලෝක වලත් සත්වයෝ ඉන්නවා. ශාන්ත වූ සමාපත්තීත් තියෙනවා. ඒ හැම දෙයක් ගැනම තිබුනු අවිද්‍යා අන්ධකාරය මට දුරු වුනා. අවිදු අඳුර දුරු වෙච්චි නිසා ඒ එකම ලෝකයකවත් පිහිටන්නෙ නෑ, මේ ලෝකෙ පින්වතුනේ කාම භව, රූප භව, අරූප භව තියෙනවා. කාමලෝක, රූප ලෝක, අරූප ලෝක තියෙනවා. සත්වයෝ කාමය අත්හරිනකොට රූපයේ හිත පිහිටුවාගන්නවා.

කාම රූප දෙකම අත්හරිනකොට අරූපයේ හිත පිහිටුවාගන්නවා. ගැලවිල්ලක් නෑ, මනාකොට සද්ධර්මය පවසන තථාගත බුදුරජාණන් වහන්සේලාගේ බණ පදය අහගෙන විතරයි ගැලවිල්ලක් තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ බෝසත් අවධියේම මේ නොයෙක් සමාපත්ති සුවයන්ට හිරවෙලා හිටපු ආලාර කාලාම, උද්දකරාමපුත්ත ආදී මහා ඉහළට හිත දියුණු කරපු අයගේත් දුර්වලතාවය දැක්කානෙ. දැකලා උන්වහන්සේ කල්පනා කලානෙ, මෙතන සමාපත්ති සුවයක් තියෙනවා තමයි හැබැයි ඒ සමාපත්ති සුවයට මේගොල්ලො බැදිලා. නිදහසක් නෑ. මං නිවනක් හොයන්න ඕන. ඒ නිසාමයි ශාස්තෘන් වහන්සේ අමෘත නිවන පසක් කලේ. ශාස්තෘන් වහන්සේ අමෘත නිවන පසක් කරපු නිසා ඒ අපගේ ශාස්තෘන් වහන්සේගේ සමීපයට පැමිණි, ශාස්තෘන් වහන්සේගේ සරණට පැමිණි, බුදු සරණ ලැබූ නුවණැති ශ්‍රාවක ශ්‍රාවිකාවන්ට කාම ලෝකය, රූප ලෝකය, අරූප ලෝකය කියන මේ හැමදේම ඉක්මවලා නිදහස් වෙන්න ලැබුනා. එහෙම නිදහස් වෙන තාක් හැබෑ සැපයක්, හැබෑ සැනසිල්ලක් මේ ලෝක සත්වයා දන්නෑ. තව්තිසාවේ එක කාලයක සිද්ධියක් සිද්ධ වුනා පින්වතුලේ තව්තිසාවේ ඒ කාලෙ පරසතු මල් පිපෙන කාලෙ. තව්තිසාවේ තිබෙන පාරිචත්තක එහෙම නැත්නම් පරසතු ගහේ පරසතු මල් පිපෙන කාලෙට දෙවිවරුන්ගේ සැණකෙලි තියෙනවා. පරසතු මල් පිපෙන කාලෙ හාර මාසයක්. ඔය හාරමාසෙම මල් පිපෙනවා. එතකොට දෙවිවරු පරසතු රුක් සෙවණට ගිහිල්ලා සැණකෙලි කරනවා හරී සන්තෝෂයෙන්. ඒ කාලයේ තමයි වැඩිපුරම දෙවිවරු නන්දන වනයට යනවා කියන්නෙ සැණකෙළි ශ්‍රී විඳින්න. ඔහොම දෙව් කෙනෙක් තමන්ගේ අප්සරාවියො ටිකත් පිරිවරාගෙන මහා උජාරුවට නන්දන වනයට ගියා. නන්දන වනයේ හැමතැනම ලස්සනයි. දකින දකින තැන හිත ඇදී යනවා. ඒකනේ නන්දන කියලා කියන්නෙ. ඇහැට පේන රූපෙ සිතට ප්‍රිය උපද්දන නිසා. කණට ඇහෙන හඬත් ප්‍රිය උපද්දන නිසා නාසයට දැනෙන සුවඳත් සිතට ප්‍රිය උපද්දන නිසා දිවට දැනෙන රසත් සිතට ප්‍රිය උපද්දන නිසා, කයට දැනෙන පහසත් සිතට ප්‍රිය උපද්දන නිසා ඒ වනයට නන්දන වනය කියා කියනවා. ඉතින් ඔය නන්දන වනයේ දෙවියා තමන්ගේ අප්සරාවියොත් එක්ක ඇවිදින ගමන් මේ දෙවියා පණ්ඩිත කමට වචනයක් කිව්වා. තමන්ගේ අප්සරාවියන්ට කියනවා, නැගණිවරුනි යම් කිසි කෙනෙක් මේ පරසතු මලින් ගැවසී ගත්ත දිව්‍යමය රූප ගන්ධ ශබ්ද රස පහස ආදියෙන් යුක්ත නන්දන වනය දැකලා නැත්නම් නැගණිවරුනි ඒ පුද්ගලයා සැපය දන්නෑ කිව්වා. හිතුවේ මේ ඔක්කොම ටික තියෙන තැන තමයි සැප කියලා. සාමාන්‍ය

මනුස්සයා වුනත් සැප හොයන්නේ ඒ වගේ නෙ නේද. අපිට ගොඩාක් සල්ලි තිබ්බා නම් සැපය කියලා හිතනවා. අපේ ගෙවල් දොරවල් ලොකුවට තිබ්බා නම් අපිට සැපයි කියලා හිතනවා. හොඳ සුඛෝපභෝගී වාහන තිබ්බා නම් සැපයි කියලා හිතනවා. අපිත් සැප හොයන්නෙ පින්වතුනි එතන. කාමලෝකයක් වන ඒ තව්තිසාවේ ඉපදිලා හිටපු බුදුබණක් නොඇසූ දෙවියාත් හිතුවා එතන තමයි සැප. හැබැයි එහාපැත්තේ හිටියා භාග්‍යවතුන් වහන්සේගේ සද්ධර්මය අහපු දෙවියෙක්. ඒ දෙවියාට ඕක ඇහුනා. ඒ දෙවියා සද්දෙන්ම කිව්වා අනේ අනේ මෝඩයො ඔහේ රහතන් වහන්සේලාගේ වචන අහලා නැද්ද. මේ නන්ද වනයේ තියෙන එක මේක මොන සැපක්ද. සැපය කියන්නෙ මේක නොවෙයි. මේ හටගත්ත හැමදේම අනිත්‍යයි. අනිච්චා වත සංඛාරා, සංස්කාරයෝ අනිත්‍යයි, උප්පාද වයධම්මිනො මේවා හටගන්නවා, හටගන්නා සේමයි වැනසී යනවා. උප්පජ්ජිත්වා නිරුජ්ඣන්ති - උපදින්න හේතුවෙච්චි දේ නැසීයාමෙන් ඒ ඔක්කොම දේවල් නිරුද්ධ වෙලා යනවා. මේ නන්දන වනය සැපයි සැපයි කිය කියා ඉන්න කෙනාම නන්දන වනයෙන් චුත වුනාට පස්සෙ මේ දුක්ඛිත සංසාරයට ආයෙ වැටෙනවා. තේසං වූප සමොසුඛො - යම් තැනක ඔය ස්වභාවය සංසිඳෙනවා නම්, සාංසාරික ගමනේ පටලැවෙන ස්වභාවය සංසිඳෙනවා නම් අන්න එතැන තමයි සැප තියෙන්නෙ, ඒ තැන කොතැනද? නිර්වාණයයි. නිර්වාණයේ තමයි සැප තියෙන්නෙ. ඉතින් ඒ නිර්වාණයට පැමිණි කෙනා අර ලෝක එකකවත් පටලැවෙන් නෑනෙ. ඒ ලෝක හැම එකකින්ම නිදහස් වුනා. කාමලෝකයෙනුත් නිදහස් වුනා. රූප ලෝකයෙනුත් නිදහස් වුනා. අරූප ලෝකයෙනුත් නිදහස් වුනා. ඊළඟට ශාන්ත වූ යම් යම් සමාපත්ති වේද ඒ හැම සමාපත්තියකිනුත් නිදහස් වුනා. ඒ හැම එකක්මත් අත්හැරලා දැම්මා. ඒවා එකකවත් පටලැවුන් නෑ. දැන් සමහර කෙනෙක් චිත්ත දියුණුව කරගෙන ගිහිල්ලා ආකාසානඤ්චායතනයේ තියෙන සුවයට අහුවෙනවා, එතන හිරවෙනවා. ආකිඤ්චංයාතනයේ තියෙන සුවයට අහුවෙනවා, එතන හිරවෙනවා. විඤ්ඤාණඤ්චායතනයේ තියෙන සුවයට අහුවෙනවා, එතන හිරවෙනවා. මේවා ශාන්ත සමාපත්තිනෙ. නෙවසඤ්ඤානාසඤ්ඤායතනයේ තියෙන සුවයට අහුවෙනවා. එතන හිරවෙනවා. කොහෙහරි අල්ලාගන්නවා පින්වතුනේ. අල්ලා ගැනීම කියලා කියන්නෙ සාංසාරික ගමනේ යන සත්වයාට තිබෙන ස්වභාවය. ඒ ඒ තැන අල්ලාගන්නවා. ඒ තමයි තෘෂ්ණාව. දුක හදන වඩුවා වන තෘෂ්ණාවේ ස්වභාවය වන තත්‍රතත්‍රාභිනන්දිනී - ඒ ඒ තැන සතුටින් පිළිගන්නේය. භාග්‍යවත්

බුදුරජාණන් වහන්සේ දවසක් ආනන්ද මහතෙරුන් වහන්සේත් එක්ක පිණ්ඩපාතෙ වැඩම කරනවා පාරෙ. එක තැනක බුදුරජාණන් වහන්සේ නැවතුනා. නැවතිච්චි තථාගතයන් වහන්සේ සිනහ පහළ කලා. ඒ සිනහ පහළ කරනකොට, බුදුවරුන්ගේ සිනහ පහළ කිරීමේ අසිරිය එතන හටගත්තා. බුදුරජාණන් වහන්සේ සිනහ පහළ කරනා කල්හි තථාගත ශ්‍රී සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී සම්බුදු මුව මඩලේ වැඩ හිඳිනා ඒ ශ්වේත වර්ණ පැහැති උතුම් දළදා වහන්සේලා ශ්වේත ඝන බුද්ධ රශ්මි මාලා විහිදුවනවා. ඒ රශ්මි මාලාවෝ සම්බුදු සිරස තුන්වටක් ප්‍රදක්ෂිණා කරනවා. ඒ ප්‍රදක්ෂිණාව අවසන් වී ඒ ශ්වේත රශ්මි මාලා ඉතාම ලස්සනට නොපෙනී යනවා. මේක බුදුරජාණන් වහන්සේලා සිනහ පහළ කරද්දී සිද්ධ වෙන අසිරිමත් සිදුවීමක්. ඉතින් බුදුවරුන්ගේ මේ ජීවිතේ ආශ්චර්‍ය්‍ය ගැන ශ්‍රාවකයො විදියට අපි හිත පහදවාගන්න ඕන. මේ ලොකයේ යමෙකුට අච්චරිය මනුස්ස කියා කියනවා නම් ආශ්චර්‍ය්‍යවත් මනුෂ්‍යරත්නය කියා කියනවා නම් ඒ අපි සරණ ගියපු අපගේ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේටයි. බුදුරජාණන් වහන්සේගේ ජීවිතය ආශ්චර්‍ය්‍ය නැත්නම් වෙන කාගෙද ආශ්චර්‍ය්‍ය තියෙන්නෙ. බුදු කෙනෙකුගේ ජීවිතය ආශ්චර්‍ය්‍ය නැත්නම් වෙන කොහෙද ආශ්චර්‍ය්‍යයක්. ඒ නිසා ඒ ආශ්චර්‍ය්‍ය මනුෂ්‍ය රත්නය සිනහවක් පහළ කරනකොට එහි තිබුනා අසිරියක්. ඒ අසිරිය එකල හිටපු මහා පින් තිබ්බ ආනන්ද මහරහතන් වහන්සේ ඇතුලු ඒ උත්තමයො දැක්කා. ආනන්ද ස්වාමීන් වහන්සේ ඔය අසිරිය දැකලා බුදුරජාණන් වහන්සේගෙන් අහනවා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස තථාගත බුදුරජාණෝ නොකරුණෙහි සිනහ පහළ නොකරනා සේක. ස්වාමීනී අපට වදාළ මැන, සිනහ පහළ කරන්නට කරුණ කිම? බුදුරජාණන් වහන්සේ වදාළා ආනන්දය ඔබට පේනවාද, මේ පාර හරහට කඩි රැලක් ගමන් කරමින් සිටින හැටි. ආනන්ද ස්වාමීන් වහන්සේ කියනවා එහෙමයි ස්වාමීනී. ආනන්දය, මෙතන මේ කඩිපෙලේ පෝලිමට යන කඩි අතරේ සක්විති රාජයන් බවට පත්වෙලා මාණික්‍ය රත්න හතකට උරුමකම් කියලා ඍද්ධි හතරක් ඇතිව හිටපු මේ මුළුමහත් පෘථිවියේ දැහැමින් රාජ්‍යය කරපු සක්විති රජුන් බවට පත්නොවුනු එකම කඩියෙක්වත් නෑ. ඒ කඩි ඔක්කොම සක්විති රජ වෙලා ඉඳලා. සක්විති රජවරු වෙලා ඉඳලා, සක්විති රාජ්‍යයක් කරලා, සක්විති රාජ්‍යය මනාව යහපත්ව පැවැත්වීම හේතුවෙන් දෙව්ලොවත් ඉපදිලා ඒ දෙව්ලොව දිව්‍ය සැපත් විඳලා ආයෙ සංසාරයට වැටිලා, දැන් කඩි. සක්විති රජවරු වුනාම මැණික් හතට ආස කරනවා, සක්විති රාජ්‍යයට ආස

කරනවා, රාජකීය සම්පත්තීන්ට ආස කරනවා. දැන් කඩියා වෙලා ඔය කඩියාට අහුවෙන මොකක්හරි බත් ඇටයක්, මොකක්හරි රොඩු කෑල්ලක් ඔය මොනවහරි එකකට ආසා කරගෙන යනවානෙ. බලන්න පින්වතුනි ඔය පුංචි පුංචි සත්තු මැස්සො වගේ පොඩි සත්තු උන් පුංචි දෙයක් හොයාගෙන උන් ඔට්ටු වෙන හැටි. මැස්සො වගේ සත්තු අශුචියක්, දුර්ගන්ධයක් හොයාගෙන එකතු වෙන හැටි. ඒ අයත් සක්විති රජවරු වෙලා ඉන්න ඇති. ඒ කාලෙ ඒ ගොල්ලො ප්‍රණීත භෝජන වලට ආසා කරන්න ඇති. හැබැයි මැස්සා වුනාම ඒකට ආසා කරනවා. මේ තමයි සසර. මෙහෙම සසරකින්, මෙහෙම සංසාර ගැටයකින්, මෙහෙම අර්බුදයකින් නිදහස් වෙන්න බුදු කෙනෙකුගේ දහම් පදයක්ඇහුවේ නැත්නම්, වෙන නම් විදියක් නෑ. බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය අහලා මේ මහා පින්වන්ත උත්තමයන්ට උත්තමාවියන්ට අවකාශ ලැබුනා අර ඔක්කොම ගැට වලින් නිදහස් වෙන්න. ශාන්ත වූ සමාපත්තිය ආදියෙනුත් නිදහස් වුනා. හැම දෙයක් ගැනම තිබුනු අවිද්‍යා අන්ධකාරය මට දුරු වුනා. ඔය විදියටයි කිව්වා ඔහේ මාරය මා ගැන දැනගතයුත්තේ. දැන් මේ මාරයා සාමාන්‍ය තරුණ ස්ත්‍රියකට කියන කතන්දරයක් කියාගෙනනෙ මෙතන ආවෙ පටලවන්න හිතාගෙන. ඒ වුනාට ඒ උත්තමාවිය ජීවිතාර්තය ලැබූ කෙනෙක්. ඒ උත්තමාවිය තර්ජනාමුඛයෙන් අර්ථය පහදනකොට මාරයාට ඒක අහගෙන ඉන්න බැරිව ගියා, දුකට පත්වුනා. අතකො මාරො පාපිමා ජානාති මං විජයා භික්ඛුනීති දුක්ඛීදුම්මනො තත්ථෙව අන්තරධායීති - එතකොට පවිටු මාරයා අයියෝ මේ විජයා භික්ෂුණිය දියුණු කරපු නුවණින් මාව දැනගත්තා නොවැ, එහෙම කියලා දුක්වුනා, නොසතුටු වුනා, එතැනම අතුරුදහන් වෙලා නැතිවෙලා ගියා. මරු පරවදා ජයගත්තු මුණිවරිය, විජයා මහරහත් භික්ෂුණිය. පින්වතුනි තථාගත බුදුරජාණන් වහන්සේ මේ ලෝකයේ මාර පරාජය කොට සම්බුද්ධ රාජ්‍යය ලැබූ නිසා ඒ සම්බුද්ධ ශාසනය තු නුවණ තිබුනු පින්වන්තයන්ට සැපයට පත්වීමේ අවකාශය ලැබුනා. තුන්වෙනි ධර්ම සංගායනාවෙන් පස්සේ අපේ අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේ ඒ ධර්මයයි මේ ලංකා භූමියට රැගෙන පැමිණියේ. ඒ ධර්ම අමෘතයයි මේ සිංහලයාට මිහිඳු මහරහතන් වහන්සේ දුන්නෙ. සිංහලයා ඒ උතුම් අමෘතය බොහොම බැති සිතින් ආදරයෙන් වැළඳගත්තා. ඒ නිසාමයි සිංහලා මිහිඳු මහරහතන් වහන්සේට අපගේ අනුබුදු කියන වචනය කිව්වෙ. අපට බුදුරජාණන් වහන්සේ බවට පත්වුනා කියන වචනය, අපට අනුබුදුවරයන් ඔබවහන්සේය කියන වචනය මේ සිංහලයා කිව්වෙ ඒ ධර්මය අරගත්ත නිසා. සිංහලයො වේගයෙන්

මාර්ගඵල අවබෝධ කලා. සිංහලේ වේගයෙන් රහතුන් බිහිවුනා. ඒ සිංහල භූමියේ සිංහලයො මාරයා පරාජයට පත්කලා. මරු පරදවා ජය අරගෙන ඒ උතුම් රහතන් වහන්සේලා ඒ කාලයේ සිහල රහතුන් අහස් ගැබේ වැඩම කරනකොට, පොහොය කරන දවස්වලට, විශේෂයෙන් සංඝයාගේ කටයුතු තියෙන කාලවලට, ඊළඟට සෑ කර්මාන්ත වල ධාතු නිධාන ආදිය තියෙනකොට, මහා සාංඝික දාන තියෙන කොට රහතන් වහන්සේලා අහසින් වඩිනවා. ඒ අහසින් වඩිනකොට ඒ කාලෙ කතාවකුත් හැදුනා, මේ වී පැදුරක් වේලගන්න නෑ, අහසින් ඒ තරම් රහතුන් යනවා කියලා. වළාකුළු යන්නැහේ රහතුන් වැඩම කරන්න පටන් ගත්තා. මාරයා පරාජය කරපු සිහල පුතුන් අහස් ගැබේ යන්න පටන් ගත්තා. මිහිඳු මහරහතන් වහන්සේ ලංකාභූමියට වැඩම කරපු නිසා. මිහිඳු මහරහතන් වහන්සේගේ අනුශාසනා පරිදිම සංඝමිත්තා මහරහත් උත්තමාවිය මේ ලංකාධරණී තලයට වැඩම කලා. ලංකාවේ සිහල කාන්තාවන්ටත් මාරයා පරාජය කරලා සැනසිල්ලේ භික්ෂුණීන් වහන්සේලා බවට පත්වෙලා වැඩ වාසය කරන්න අවකාශ ලැබුනා. ඉතින් මේ හැමදේම පින්වතුනේ, මේ හැමදේම ලොව්තුරා අපගේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මහා ශාන්තිනායකයාණන් වහන්සේ නිසා. ඒ බුදුරජාණන් වහන්සේ ලෝකයට දේශනා කරපු සද්ධර්මය නිසා. ඉතින් අද අපි විජයා නම් වූ මහරහත් උත්තමාවියගේ චරිතාපදානය මේ විදියට ශ්‍රවණය කලේ, විජයා භික්ෂුණිය කියලා කියන්නෙ ඛේමා මහරහත් තෙරණින් වහන්සේගේ අවවාද අනුශාසනා ලබාගෙන නිවී සැනසිච්චි උත්තමාවිය. ඉතින් ඒ උත්තමාවියටත් නමස්කාර කරමින් අපි අද මේ දේශනාව අවසාන කරමු. අවසාන වශයෙන් අපි අධිෂ්ටානයක් ඇති කරගනිමු අපිටත් ඒ රහතන් වහන්සේලා, ඒ රහත් තෙරණින් වහන්සේලා සැනසුනු නිවනේ සැනසීම පිණිස කල්‍යාණමිත්‍ර ඇසුරේ සුවසේම පින් රැස් කරගෙන දහම් මග දියුණු කරගන්න අවකාශ ලැබෙත්වා. අද මේ ධර්ම දානය, අද මේ සිදු කලා වූ ධර්ම දේශනාව භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ පිරිසිදු උතුම් ශ්‍රී සද්ධර්මය මේ ශ්‍රී ලංකා ධරණී තලයට දායාද කල අපගේ උතුම් අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේ සහ සංඝමිත්තා මහරහත් තෙරණින් වහන්සේ ඇතුළු පිරිනිවන් පා වදාළ උතුම් මහරහත් උත්තම උත්තමාවියන් උදෙසා උපහාර පූජාවක්ම වෙත්වා, සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අපි පළමුකොට අනුමෝදන් කරමු සියලු දෙවිවරුන්ට. සක්දෙවිඳුන් සතරවරම් දෙවිවරුන්, සෙන්පති දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවියෝ සතුටු සිත් උපදවාගෙන මේ පින අනුමෝදන් වෙත්වා. ඔබ අප

හැමදෙනාගේ ඉෂ්ටකාමී හිතකාමී දේවතාවුන් වහන්සේලාත් මේ ලංකා භූමිය සුරකින්නා වූ සුමන සමන් දෙවිරජුන් ප්‍රධාන සියලු දෙවිවරුන් අනුමෝදන් වෙලා දෙවිවරු දිව්‍ය සැපයෙන් වැඩෙත්වා. ශ්‍රද්ධා සීලා දී උතුම් ගුණ ධර්මයන්ගෙන්ද දියුණු වෙත්වා, ඒ සියලු දෙවියන්ගේ දහැමි ආරක්ෂාව, රැකවරණය නිරන්තරයෙන් අප හැමදෙනාට දෙවියෝ සලසා දෙත්වා. දෙවියෝ ද සසර දුකින් අතමිදේවා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයෝ අපගේ ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට සියලුම පින් අනුමෝදන්ව නිදුක් නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සැලසේවා, මේ ගෞතම ශාසනය තුළ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරගන්නට වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලුම පුණ්‍ය ධර්මයන් අද දවසේ මේ දේශනාව සඳහා දායකත්වයන් දරනු ලබන ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් රෝහණ පතිරගේ මහතා ඇතුලු පවුලේ හැමදෙනාගේ නමින් මියපරලොව යන්න යෙදුනා වූ සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. අනන්ත සසර පුරාවටම මියපරලොව ගිය ඒ සියලු ඥාති හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන්ව ඒ හැමගේ පරලොව ජීවිතය සැපවත් වෙත්වා, අපගේ ඥාතීන් මේ දුක් සහිත සංසාරයෙන් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදන් කරන්න. මේ ධර්ම දේශනාවේ දායකත්වයට සහ ගිලන්භික්ෂු රෝහලට මුදලින් ආධාර කලා වූ සියලු කල්‍යාණමිත්‍රයින්ටත් පින්පෙත් අනුමෝදන් කරනවා, ඒ අයගේ පවුල් වල සෑම සියලු දෙනාටත් පින් අනුමෝදන් කරනවා. ඒ හැමදෙනාටම නිදුක් නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා, චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න මේ පින් හේතුවේවා කියන අදහසින් අද ධර්ම දානය සිදු කලේ මේ ගෞතම ශාසනය තුළ පිරිනිවන් පා වදාළා වූ උතුම් මහරහත් උත්තම උත්තමාවියන්ට මේ ධර්ම දානය උපහාර පූජාවක් වේවා කියන ප්‍රාර්ථනාවෙන් යුක්තව ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් රෝහණ පතිරගේ මහතා ඇතුළු පවුලේ හැමදෙනාත් කල්‍යාණමිත්‍රයින් සහ ඒ අයගේ පවුලේ සෑම සියලු දෙනාත් එකතුවෙලා. ධර්ම දානය සිදු කලා වූ ඒ සුපින්වතුන්ලා හැමදෙනාට මේ පිනේ ආශිර්වාදයෙන් තෙරුවන් සරණින් සියලු දෙවි දේවතාවුන් වහන්සේලාගේ රැකවරණයෙන් සියලු යහපතම උදාවේවා. කරන කියන රැකී රක්ෂා ආදියත් දූදරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදියත් තමන්ගේ ජීවිතයේ මේ ආදී සියලු කටයුතු සර්වප්‍රකාරයෙන් සාර්ථක වේවා.

සුවසේ නිදුකින් ජීවිත ගත කරන්න අවකාශ සැලසේවා. කිසීම කරදරයකින් බාධාවකින් තොරව මේ මුණගැහිච්චි කල්‍යාණමිත්‍ර ඇසුරේ සුවසේම ගුණදහම් දියුණු කරගන්නටත්, සුවසේම පින් දහම් රැස් කරගන්නටත්, ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්නටත් අවකාශ ලැබෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාට, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සෑම සියලු දෙනාට, ඒ වගේම සුපින්වත් ඔබ හැමදෙනාට මේ ගෞතම සසුනේම චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=tXPIANW3m5k

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද දවසේ ධර්ම දානමය පින්කම සිද්ධ කරන්නේ මීට වර්ෂයකට පෙර මියපරලොව ගියා වූ පින්වත් ඒ.ජී. සමරකෝන් පියාණන්ට පරලොව ජීවිතයට සංග්‍රහ පිණිස පින්පෙත් අනුමෝදනා කරන අදහසින්, සමරකෝන් පවුලේ දූදරු පිරිස සහ මැණියන් ඇතුලු ඒ ඥාතිහිතමිත්‍රාදීන් සෑම සියලු දෙනා ඒකරාශී වෙලා මියපරලොව ගොස් වසරක් සපිරෙන ඥාතිවරයාට පින් පෙත් අනුමෝදනා පිණිසයි අද මේ ධර්ම දානය. පින්වතුනේ හැමදෙනාගේ ජීවිත වල අපි උරුම කරගෙන ඉන්න දෙයක්, මරණය. භාග්‍යවතුන් වහන්සේ දේශනා කොට වදාළේ පලාන නිච්චක්ඛානං පාතො පතනතො භයං - ගහක ඉදුනු ගෙඩියකට බිම වැටේවි කියා යම් බයක් තිබේද, ඒවං ජාතාන මච්ඡානං ඉච්ඡං මරණතො භයං - මනුස්ස ලෝකෙ ඉපදුනු මනුස්සයාට නිරන්තරයෙන් තියෙන්නෙ මරණ බියයි. ගෙඩියක් ඉදුණු විට ගෙඩියට තියෙන්නෙ වැටෙනා බියයි. මනුස්සයෙක් උපන් විට ඒ මනුස්සයාට තියන්නේ මරණයේ බියයි. තරුණ වයසේද මැරෙන්නේය. මැදිවියේද මැරෙන්නේය. වයෝවෘද්ධ

වීද මැරෙන්නේය. මැරෙන්නේය මැරෙන්නේය කියා කතා කරනවා මිසක් අපිට නොමැරෙන්නේය කියා කතාවක් නැත. හැමදෙනාගේ ජීවිත වල මරණය උරුම වෙලා තියෙනවා. මරණය උරුම කරගත්ත ජීවිතයක් මේ ලබාගෙන මරණය උරුම කරගත්ත ජීවිතය නොයෙක් දෙනා නොයෙක් දේ කරමින් ඉන්නවා. මරණය උරුම කරගත්ත ජීවිතයට ඇතැමුන්ට සත්පුරුෂයො මුණගැහෙනවා. ඇතැමෙකුට හැබැයි මුණගැහෙන්නේ අසත්පුරුෂයෝ. ඇතැමෙකුට සත්පුරුෂ ධර්මය මුණගැහෙනවා. ඇතැමෙකුට මුණ ගැහෙන්නේ අසත්ධර්මයක්. ඇතැමුන්ට යහපත් දෘෂ්ටියක් ඇති කරගන්න ආකාරයක්, යහපත් දෘෂ්ටියකට එළඹෙන්න විදියක් මුණගැහෙනවා. ඇතැමුන්ට මුණගැහෙන්නේ මිත්‍යාදෘෂ්ටිය. මේ ලෝකය දෙස බලපුවාම අපිට කොච්චර ජේනවාද, අපි වගේම මනුස්සයො විදියට ඉපදිලා කොච්චර මිසදිටුවො ඉන්නවාද, කොච්චර වැරදි දෘෂ්ටි වල පැටලිච්චි අය ඉන්නවාද. කොච්චර පාප මිත්‍ර ආශ්‍රයේ පැටලිච්චි අය ඉන්නවාද. එහෙව් ප්‍රජාවක් අතරේ තමයි පින්වතුනේ අපිට බුදු කෙනෙකුගේ දහම් පදයක් අහන්න, බුදු කෙනෙකුගේ ශාසනයක පින් පුරාගන්න බුදු කෙනෙකුගේ ශාසනයක තෙරුවන් සරණ යන්න මේ අවස්ථාවන් ලැබිලා තියෙන්නෙ, මේවා සුලුපටු අවස්ථාවන් නෙවෙයි. මේ අවස්ථාවල ප්‍රයෝජනය අපි හැමදෙනා අරගෙන්න ඕන. ඒ ප්‍රයෝජනය ගන්නෙ කොහොමද, ඒ ගැන අද ධර්මයෙන් අපිට හරී ලස්සනට ඉගෙන ගන්න පුලුවන්. උත්තරා නම් වූ රහත් තෙරණියගේ චරිතාපදානය අපි අහන්නෙ. මේ උත්තරා කියලා කියන්නෙ සැවැත්නුවර උපන්න කෙනෙක්. තරුණ වයසේදී පටාචාරා මහරහත් තෙරණින් වහන්සේගේ කල්‍යාණමිත්‍ර ඇසුර ලැබුනා. නිතර පටාචාරා භික්ෂුණියව ඇසුරු කලා. ඉතින් කෙටි කාලයයි, බුද්ධ ශාසනයේ පැවිදි වුනා. භික්ෂුණී සංඝයා අතරේ පැවිදි වෙලා මේ උත්තරා තෙරණි දවසක් පටාචාරා භික්ෂුණිය ගාවට යනවා අවවාදයක් ගන්න. අන්න ඒ වෙලාවේ පටාචාරා භික්ෂුණීන් වහන්සේ අවවාදයක් කලා මෙන්න මෙහෙම. මිනිස්සු මෝල් ගස් වලින් ධාන්‍ය වර්ග කොටනවා, තමුන්ගේ අඹුදරුවනුත් පෝෂණය කරගෙන ධනයත් හම්බ කරගන්නවා. ඒ මිනිස්සුන්ගේ ජීවිකාව මිනිස්සු ජීවත් වෙනවා කියලා කරන්නෙ කොච්චර මහන්සි වෙලා හරි ජීවිතය යාත්‍රාව පවත්වා ගැනීම පිණිස ධනය හම්බකරන එක. ජීවිතය පවත්වා ගැනීම පිණිස පිළිවෙලක් හදාගන්න එක. ඇත්තටම කරන්නෙ ඒ දේ නේද? රස්සා කරන්නෙ ඒ උදෙසා. අධ්‍යාපනයෙන් දියුණු කරගන්නේ ඒ උදෙසා. නොයෙක් කටයුතු සිද්ධ කරනවා හැමදේම ඒ උදෙසා. තමුන්ගේ අඹුදරුවෝ පෝෂණය කරගෙන ධනය හම්බකරගෙන ජීවිතය ගැට ගසාගැනීම පිණිස, අපි ඒකට කියන වචනය ජීවිතය ගැටගහගන්නවා කියලානෙ. ඇතැම් කෙනෙකුගේ ගැටගසා ගැනීම ගොඩාක් සාර්ථකයි. ඇතැම් කෙනෙක් හරී අමාරුවෙන් තමයි ගැට ගහගන්නෙ. ව්‍යාපාර, හොඳ උසස් විදියට ව්‍යාපාර කරගෙන හොඳ මට්ටමක ජීවිතය ගත කරන මිනිස්සුත් ඉන්නවා. ඒ වගේමයි අනිත් පැත්ත, හරී අමාරුවෙන්, හරිම අමාරුවෙන් කුලියක් මලියක් කරගෙන බොහෝම අමාරුවෙන් ජීවිතය ගැටගහගන්න මිනිස්සුත් ඉන්නවා. හැබැයි ඔය මිනිස්සු හැමෝම කරන්නෙ ජීවිතය ගැටගහගන්න ඔට්ටු වීමයි. ඒකනෙ ජීවත් වෙද්දි අපි කරන්නෙ. ඒ උදෙසා සියලු කැපකිරීම් මනුස්සයො කරනවා. මේ මැරෙන ජීවිතේ කවදා හෝ දවසක මේ ලෝකය අත්හැරලා යන්න තියෙද්දි මේ මිනිස්සු මේ දේවල් කර කර කාලය ගත කරනවා. මේ පැවිදි වෙච්චි තෙරණියට පටාචාරා භික්ෂුණිය කියනවා ගටේථ බුද්ධ සාසනේ යං කත්වා නානුතප්පති කිප්පං පාදානිදෝවිත්වා ඒකමන්තං නිසීදත - ඒ වුනාට භික්ෂුණිය ඔයා

මෙහෙම කරන්න. යමක් කලාට පස්සෙ තැවෙන්නේ නැත්නම් ආන්න ඒ බුද්ධානුශාසනාව තමයි කරන්න ඕන. මිනිස්සු ජීවත් වෙන්න එක එක දේවල් කරනවා. මේ මැරෙන ජීවිතේ මිනිස්සු එක එක ඉලක්ක වලට වැඩ කරනවා. එක එක දර්ශන වලට වැඩ කරනවා. එක එක මතිමතාන්තර වල වැඩ කරනවා. එක එක පුද්ගලයෝ කියන කියන විදියට වැඩ කරනවා. තමන්ට හිතට එන එන විදියට වැඩ කරනවා. මිනිස්සු එක එක ඒවා කලාට නුවණැති පටාචාරා භික්ෂුණිය මේ උත්තරා තෙරණියට පිළිතුරක් දෙනවා, උත්තරා තෙරණියට අවවාදයක් දෙනවා භික්ෂුණිය ඔයා මෙහෙම කරන්න. යමක් කලාට පස්සෙ පසුතැවෙන්නේ නැති නම් අන්න ඒ බුදුරදුන්ගේ අනුශාසනාව කරන්න. මේ මැරෙන ජීවිතයේ පින්වතුනි අපි කරගත යුත්තේ ඒක. යම් දෙයක් කලාට පස්සෙ පසුතැවිල්ලක් එන්නෙ නැතිනම් අන්න ඒ මහාකාරුණික සම්බුදු වදන බුදුරදුන්ගේ අනුශාසනාව කරන්න. බුදුරජාණන් වහන්සේගේ අනුශාසනාව කලොත් මැරෙන ජීවිතයට රැකවරණයක් තියෙනවාමයි. මොකක්ද ඒ අනුශාසනාව, අපේ පසේනදී කෝසල මහරජ්ජුරුවො එක දහවලක බුදුරජාණන් වහන්සේ බැහැදකින්න එනවා. ඒ පැමිණියාට පස්සෙ භාග්‍යවතුන් වහන්සේ මහරජ්ජුරුවන්ගෙන් අහනවා මහරජතුමනි, මේ දහවල් කාලයේ අවේලාවේ රජවරු එන්නෙ නැති වෙලාවේ ඔබ මේ මොකෝ මාව හම්බවෙන්න ආවෙ. එතකොට කියනවා රජ්ජුරුවො ස්වාමීනී ඔබවහන්සේලාට වගේ යැ, අපි රටරාජ්‍යයන් දිනාගත්ත, විජිතයන්ට අධිපති වෙච්චි රජවරුනෙ. ස්වාමීනී ඉතින් අපි දිනාගත්ත විජිතයන්ගේ නොයෙක් නොයෙක් කටයුතු අපිට යෙදෙනවා. ඉතින් ඒ කටයුත්තකට ගිහින් එන ගමන මේ ජේතවනාරාමය ළඟින් අපිට ගමන යෙදුනෙ. මං කල්පනා කලා ඔබවහන්සේවත් වන්දනා කරගෙන යන්න. දැන් මේ රජ්ජුරුවො කියන්නෙ භාග්‍යවතුන් වහන්සේ වගේ නෙවෙයි, තමන් වගකීම් ගොඩාක් තියෙන කෙනෙක්, ඉතින් තමන්ට විවේකයක් නෑ, තමන් ඒවත් එක්ක ඉන්න එපැයි කිව්වා. ඒවාට තමයි ඔක්කොම අවධානය. බුදුරජාණන් වහන්සේ වදාළා රජතුමනි, ඔබෙන් කරුණක් අහන්නම්. ඔබට තේරෙන විදියට මේකට උත්තරය දෙන්න. රජතුමනි ඔබට ඉන්නවා නේද හොඳ විශ්වාස කටයුතු වචන ඇති, යම් වචනයක් පිළිගත හැකි රාජකීය දූතයෝ ඔබට ඉන්නවා නේද. කිව්වා ස්වාමීනී, මං මේ හැම ජනපදයකම යනකොට ඒ ජනපදයක් ජනපදයක් ගානෙ මගේ දූතයො ඉන්නවා. ඒ ඇයො මට හොඳටම විශ්වාසවන්තයි. ඒ අයගේ වචන වලට අනුව තමයි මං මගේ රාජ්‍යය විචාරීම කරන්නෙ කිව්වා. බුදුරජාණන් වහන්සේ වදාළා හරි රජතුමනි, ඔබ ළඟට විශ්වාස කටයුතු ඇතු රාජපුරුෂයෙක් රාජ දූතයෙක් ඇවිල්ලා කියනවා රජතුමනි, රජතුමනි මහා නස්පැත්තියක්, මං මේ උතුරු දිශාවේ ඉඳන් දුවගෙන එන්නෙ. රජතුමනි උතුරු දිශාවේ උස විශාල පර්වතයක් මහා සුවිසාල පර්වතයක් පෙරළීගෙන පෙරළීගෙන හැමදේ විනාශ කරගෙන අහෝ අපගේ රාජධානිය පැත්තට එනවා. වළක්වන්නට විදියක් නෑ, අහුවෙන අහුවෙන මනුස්සයා යටවෙලා යනවා. අහුවෙන අහුවෙන හැමදේම විනාශ වෙලා යනවා. රජතුමනි ඒ පර්වතය ඔන්න රාජධානිය පැත්තට පෙරළීගෙන එනවා. රාජ්‍යයක් දිනූ විජිතයක් ජයගත්ත මහාරාජන් කෙනෙකුන් වන ඔබ පුලුවන් දෙයක් කරන්න. එහෙම කිව්වොත් ඒ මොහොතේම රජතුමනි දකුණු දිශාවෙනුත් පුරුෂයෙක් පැමිණිලා පණිවිඩය කියනවා ඔය විදියේම එකක්, උතුරින් විතරක් නෙවෙයි රජතුමනි දකුණෙන්ද එන්නේය. සුවිශාල මහා පර්වතයක් එන්නේය. අහුවෙන අහුවෙන එකා යටවෙන්නේය. රට රාජ්‍යය දිනූ රජෙක් විදියට ඔබට හැකි දෙයක් කළ මැනව. ඔය මොහොතේම නැගෙනහිර බටහිර කියන දෙදිසාවෙනුත්

රාජකීය දූතයෝ දෙන්නෙක් විශ්වාස කටයුතු ඇති පුරුෂයෝ දෙන්නෙක් එනවා ඇවිල්ලා කියනවා රජතුමනි අනිත් පැති දෙකත් විනාශයි. නැගෙනහිරිනුත් මහා පර්වතයක් එනවා. බටහිරිනුත් මහා පර්වතයක් එනවා. ඒ පර්වත එකක්වත් නවත්වන්න පුලුවන් ඒවා නෙවෙයි. පෙරළීගෙන පෙරළීගෙන එනවා, අහුවෙන අහුවෙන හැමදේම විනාශ වෙනවා. ඒවා ඇදෙන්නේ මේ රාජධානිය පැත්තටයි. මේ රාජධානිය ඔබතුමාගේ රාජධානිය, ඔබතුමා ජයගත්ත එක, ඔබතුමාගේ විජිතය. මේක රැකගන්න ඔබතුමාට පුලුවන් දෙයක් කරන්න කිව්වා. එහෙම කිව්වොත් හදිසියේ හරි රජතුමනි රාජ්‍යයක් දිනූ මහා වගකීම් සම්භාර ඇති බොහෝ කටයුතු ඇති ඔබ ඒ වගේ වෙලාවක මොකක්ද කරන්නෙ? ඔන්න රජ්ජුරුවන්ට මේක ඇහෙනකොට හීන්දාඩිය දැම්මා. රජ්ජුරුවො කිව්වා ස්වාමීනී රාජ්‍යයක් දිනූ මහරජෙක් වුවද එබඳු ව්‍යසනයක් ඉදිරියේ මා කුමක් කරන්නද. රට රාජ්‍යයක් දිනාගෙන සිටියද ඒ රාජ්‍යයක් දිනූ රජෙක් වුවත් බේරිය නොහැකි පර්වතයක් මා කරා පැමිණෙන්නේ නම් ස්වාමීනී මං කුමක් කරන්නද, මං ඒ වෙලාවට කරන්නෙ ධම්මචරියා, ධර්මයේ හැසිරෙන එකයි. සමචරියා, යහපතේ හැසිරෙන එකයි. කුසලකිරියා, කුසල් කරනා එකයි, පුඤ්ඤකිරියා - පින් කරන එකයි. රජ්ජුරුවො ඥානවන්ත නිසා ඒක කිව්වා. රජ්ජුරුවො ඥාණවන්ත නිසා, නුවණ තියෙන නිසා නුවණැත්තෙක්ගේ වචනයක් ගන්න දක්ෂ නිසා රජ්ජුරුවො එහෙම කිව්වා. එතකොට බුදුරජාණන් වහන්සේ රජ්ජුරුවන්ට කියනවා රජතුමනි, ඔබ දුන්න පිළිතුර ඕක නම් මං ඔබට යමක් සිහිපත් කරන්න කැමැතියි. මොකද රජ්ජුරුවො මෝඩපහේ උත්තරයක් නෙවෙයි දුන්නෙ. මං ස්වාමීනී එහෙම ප්‍රශ්නයක් වුනොත් ඒ වෙලාවට බලාගන්නම් කිව්වෙ නෑ. රජ්ජුරුවො නුවණැති උත්තරයක් දුන්නා. ස්වාමීනී බේරෙන්න බැරි ව්‍යසනයක් ඉස්සරහා මං කරන්නෙ ධර්මයේ හැසිරීම, යහපතේ හැසිරීම, කුසලයක් කරගැනීම, පිනක් කරගැනීම, එහෙම කිව්ව ගමන් බුදුරජාණන් වහන්සේ වදාළා එසේ නම් රජතුමනි මං ඔබට අර්ථයක් සිහි කරන්නම්. මහා පර්වත සෙයින් ඔබේ ජීවිතයට නිරන්තරයෙන් පෙරළෙන කිසිසේත් නැවැත්විය නොහැකි පර්වත දෙකක් තිබේ. ඒ පර්වත නම් වයසට යෑමත්, මරණයත්ය. ජරාව නම් වූ පර්වතය ඔබේ ජීවිතය කරා පෙරළෙමින් තිබේ. මරණය නම් වූ පර්වතයද ඔබේ ජීවිතය කරා පෙරළෙමින් තිබේ. මහාරාජය, රටක් රාජ්‍යයක් දිනූ කෙනෙක් ලෙස ඔබ කුමක් කරන්නේද? එතකොට පසේනදී කෝසල මහරජ්ජුරුවො කියනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, රටරාජ්‍යයක් ජයගත්ත මට මහා ධනය තිබේ. ස්වාමීනී මගේ ධනය පොළොවේ ද තිබේ. මගේ ධනය අහසේ ද තිබේ. ඒ මා හට තියෙන ධනය කොයිතරම් වුවත් මගේ ඒ ධනයෙන් ස්වාමීනී ජරා මරණ කියන පර්වත පැමිණෙද්දි කිසිඳු ප්‍රයෝජනයක් නැත. ස්වාමීනී සාමාන්‍යයෙන් සතුරු රජවරු පැමිණියාම සතුරු ආක්‍රමණ ආපුවාම මං මගේ ධනයෙන් ඒ සතුරන්ව මගේ පැත්තට නවලා ගන්නවා. සල්ලා දීලා සතුරන්ගේ ප්‍රශ්න මං විසඳගන්නවා. ස්වාමීනී ජරා මරණ එනකොට, ජරා මරණ ඉස්සරහ මට කොච්චර සල්ලි තිබුනත් සල්ලි දීලා බේරෙන්න බෑ. ස්වාමීනී දරුණු යුද්ධ පැමිණියාම ඇත් අැස් රිය පාබල කියන සිව්රඟ සෙනඟ පිරිවරාගෙන ගිහිල්ලා යුද්ධ කරලා අපි ඒ යුද්ධ ජයගන්නවා. නමුත් ස්වාමීනී ජරා මරණ ජීවිතයට එද්දි සිව්රඟ සෙනඟක් එක්ක ගිහින් යුද්ධයක් කරලා මට දිනන්න පුලුවන්කමක් නෑ. ස්වාමීනී ඇතැම් අවස්ථා වල අපිට සතුරු ආක්‍රමණ පැමිණෙද්දී අපි කරන්නෙ කූඨ උපාය යොදලා ඒ කූඨ උපායකින් අර සතුරු පාර්ශ්වය පරද්දනවා, එහෙම නැත්නම් අපේ පැත්තට නවාගන්නවා. ඒ කූඨ උපායකින් සතුරන්ව නමාගන්න හෝ පරද්දන්න පුලුවන් වුවත් ස්වාමීනී

ජරා මරණ පැමිණෙද්දී ජරා මරණ වලට එරෙහිව කලහැකි කූඨ උපායන් නැත. ජරා මරණ ඒ විදියට දිනන්නත් බෑ. ස්වාමීනී අපේ කරා සතුරෝ පැමිණෙද්දී අපි පලා යාමෙන් සැඟවීමෙන් එහෙමත් ආරක්ෂා වෙනවා, ස්වාමීනී ජරා මරණ පැමිණෙද්දී පලා යන්න නොහැකිය, සැඟවෙන්න නොහැකිය. ස්වාමීනී ඇතැම් අර්බුද හටගන්නකොට ඒ අර්බුදය අමතක වෙලා යන්න අපි කාමයෙන් සතුටු වෙනවා. අන්ත:පුර ස්ත්‍රීන් පිරිවරාගෙන මධුවිත පානය කරලා අපි සතුටු වෙනවා. ස්වාමීනී ජරා මරණ පැමිණෙද්දී අන්ත:පුර ස්ත්‍රීන්ගෙන් ඵලක් නැත, මධුවිතෙන් ඵලක් නැත. මේ කිසිවක් වැඩක් නෑ කිව්වා. බලන්න පින්වතුනේ රාජ්‍යයක් දිනූ රජෙක් එසේ කියනවා නම් සාමාන්‍ය අපි ගැන කවර කතාද. මහා රාජ්‍යයක අයිතිකාරයෙකුත් එසේ කියනවා නම් නිකම්ම නිකම් අපි ගැන කවර කතාද. අන්න ඒ වෙලාවේ ඒ සුගත වූ අපගේ ශාස්තෘන් වහන්සේ ලස්සන ගාථා කීපයකින් මේ අර්ථය පහදලා දුන්නා. යථාපි සේලා විපුලා නබං ආහච්ච පබ්බතා සමන්තා අනුපෙයුං නිප්පොථෙන්තා චතුද්දිසා - අහස උසට තියෙන විශාල පර්වත හාත්පස හැමදිසාවේම සතුන් සුණු විසුණු කරගෙන පෙරළීගෙන එනවා වගෙයි, ඒවං ජරාච්ච මච්චුච අධිවත්තන්ති පාණිනො - ඔය විදියටම උපන් සත්වයාව ජරා මරණ දෙකෙන් යට කරලා දානවා. සත්වයාගේ ජීවිතයට පැමිණෙන බේරෙන්න බැරි පර්වත කියලා යමකට කියනවා නම් ඒ ජරා මරණ වලටයි. මේ මනුස්සයාගේ ජීවිතයට පැමිණෙන බේරිය නොහැකි පර්වත. ගැලවිල්ලක් නැති පර්වත කියලා අපි යමකට කියනවා නම් ඒ කියන්න තියෙන්නෙ ජරා මරණ ගැනයි. කත්තියෙ බ්‍රාහ්මණෙ වෙස්සෙ සුද්දෙ චණ්ඩාල කුක්කුසෙ - රාජ වංශය කියලා නෑ වෙළෙඳ කුලයේ වෙළෙන්දෝය කියලා නෑ. හීන කුලීන කියලා නෑ, සැඩොල්ලු කියලා නෑ. කුක්කුස කුලයේ කියලා නෑ ඔය කිසිම එකකින් බේරිල්ලක් නෑ මරණය ඉස්සරහ. න කිඤ්චි පරිවජ්ජෙති සබ්බමේවාභි මද්දති - හැම කෙනෙක්වම ජරා මරණය විසින් යට කරලා විනාස කරලා දානවා. න තත්ථ හත්ථී නං භූමි න රතා නං න පත්තියා නචාපි මන්ත යුද්ධෙන සක්කා ජේතුං ධනේන වා - ඒ ජරා මරණ වලින් දිනන්න ඇත් සේනාවකට බෑ. රථ සේනාවකටත් බෑ. පාබල සේනාවකටත් බෑ, කුමන්ත්‍රණ යුද්ධයකටත් බෑ. ධනයටත් බෑ. ජරා මරණ ඉස්සරහා ඒවා එකක්වත් වැඩක් නෑ. තස්මා හි පණ්ඩිතො පොසො සම්පස්සං අත්ථ මත්ථනො බුද්ධෙ ධම්මෙච සංඝෙච ධීරො සද්ධං නිවේසයේ - ඒ නිසා නුවණැති ධෛර්යවන්ත සත්පුරුෂයා තමන්ගේ යහපත දකිනවා නම් බුද්ධ ධම්ම සංඝ යන තෙරුවන් කෙරෙහිම ශ්‍රද්ධාව පිහිටුවාගන්න ඕන. මැරෙන ජීවිතේ අපි කරගත යුත්තෙ මොකක්ද, ඔන්න කරගත යුතු දේ. නුවණ තියෙන මනුස්සයෙක් ධෛර්යවන්ත මනුස්සයෙක් තමන්ගේ යහපත දකිනවා නම් ඒ කෙනා මුලින්ම කරගත යුත්තේ බුද්ධ ධම්ම සංඝ කියන තෙරුවන් ගැන ශ්‍රද්ධාව පිහිටුව ගන්න එක. ඒකයි කරගත යුත්තෙ. සල්ලි හම්බ කරනා අතරේ කරගත යුත්තේ එයයි. තමන්ගේ දියුණුවට නොයෙක් නොයෙක් මං පෙත් පාදාගන්නා අතරේ කළයුත්තෙ එයයි. හොඳට තෙරුවන් කෙරෙහි ශ්‍රද්ධාව පිහිටුවා ගන්න එක. පින්වතුනි ඒකට අවස්ථාව තියෙනවානෙ. ඒකට අපි මේ ලැබූ මනුස්ස ජීවිතේ අවස්ථාව තියෙනවා. කල්‍යාණමිත්‍රයො සත්පුරුෂයො මේ ලංකාභූමියේ ඉන්න නිසා තෙරුවන් සරණ ගැන ගුණ වශයෙන් පහදලා දෙන නිසා අපිට තෙරුවන් ගැන ශ්‍රද්ධාව පිහිටුවා ගන්න අවස්ථාව තියෙනවානෙ. ඒ නිසා මැරෙන ජීවිතේට කරගත යුතු වැදගත්ම දේ කරගන්න. ඒකට ප්‍රමාද වෙන්න නම් එපා, හොඳට තෙරුවන් ගැන ශ්‍රද්ධාව පිහිටුවාගන්න. යො ධම්ම චාරී කායේන වාචාය උදචේතසා ඉධෙව නං පසංසන්ති පෙච්චසග්ගෙ පමොදති - යම්කිසි කෙනෙක්

කයෙනුත් වචනයෙනුත් හිතිනුත් ධර්මයේ හැසිරෙනවා නම් ඒ කෙනාට මෙලොවදීම ප්‍රශංසා ලැබෙනවා. පරලොව සුගතියක ඉපදිලා සතුටු වෙනවා. යම්කිසි කෙනෙක් සිත කය වචනයෙන් ධර්මයේ හැසිරෙනවා නම් ඒ කෙනාට මෙලොවදීම ප්‍රශංසා ලැබෙනවා කාගෙන්ද? නුවණැත්තන්ගෙන්. මෝඩයො නම් ප්‍රශංසා කරන්නෑ. නුවණැත්තන්ගෙන් ප්‍රශංසා ලැබෙනවා. ඥාණවන්තයො පසසනවා ධර්මයේ හැසිරෙන එක. ඥාණවන්තයො පසසනවා යහපතේ හැසිරෙන එක. ඥාණවන්තයො පසසනවා පින් කරන එක. ඥාණවන්තයො පසසනවා කුසල් කරන එක. ඥාණවන්තයන්ගෙන් ප්‍රශංසා ලබමින් ඒ කෙනා මේ ජීවිතෙත් ගත කරලා පරලොවත් සුගතියක උපදිනවා කියනවා. ඒ නිසා මේ ලැබුනු මනුස්ස ජීවිතේ පින්වතුනේ මරණයෙන් කෙළවර වෙන එක අපි කාටවත් නවත්වන්න බෑ. මරණය කියලා කියන්නෙ අර නවත්වන්න බැරි මහා පර්වත වගේ. ඒවා එනවාමයි. ඒවා එන වෙලාව කල් ඇතිව දැනුම් දීලා එන්නෙ නෑ. කොයියම්ම මොහොතක, කොයියම්ම නිමේෂයක හෝ අපි හැමදෙනාගේම ජීවිතයට මරණය කියන එක එනවානෙ. ඒ මරණය කියන එක පැමිණෙනකොට පින්වතුනේ අපි ලැහැස්ති වෙලා ඉන්න ඕන, මරණයට මුහුණ දෙන්න. ඒ මරණයට මුහුණ දෙන්න ලැහැස්ති වෙනවා කියලා කියන්නෙ ජීවිතේ ධර්මයෙන්, යහපතින්, කුසලයෙන්, පිනෙන් පෝෂණය කරගන්න එක. ඒ ටික කරගෙන හිටියොත් මරණයට අපි සාර්ථකව මුහුණ දුන්නා, මරණයට සාර්ථකව මුහුණ දෙන තැනැත්තාට පරලොව ජීවිතේ යහපත හදාගන්න පුලුවන්. එහෙම නැත්නම් පින්වතුනි මෙතනින් මේ මනුස්ස ජීවිතේ අහිමි වෙනකොට අපිට හිමිවෙන්නෙ දුගතියක් නම් අපි කොච්චර මේ සුගති ජීවිතේ ලබාගෙන හිටියත් ඵලක් නෑ, මේ සුගති ජීවිතේ අවුරුදු අසූවක් වගේ ඇතුලත නිකම්ම වැනසිලා යනවා. ඒ නිසා තමන්ගේ යහපත කැමැති තමන්ගේ යහපත හිතන ධෛර්යවන්ත පුරුෂයෙක් ඉන්නවා නම් ඒ කෙනා කළයුතු වැදගත්ම දේ තෙරුවන් ගැන ශ්‍රද්ධාව පිහිටුවාගන්න එක. ඊළඟට ධර්මයේ හැසිරීම, කුසලයේ හැසිරීම, යහපතේ හැසිරීම, පින් කිරීම. මේ ටික මනුස්ස ජීවිතේ වැදගත් දේ. මේ ටික විශාල අවධානයකින් යුක්තව තම තමා විසින් කරගත යුතු දේ. මේ ටික කරගත්තොත් ඒ කෙනා තමන්ගේ රැකවරණයත් හදාගෙන, ඒ වගේම ඒ කෙනා ඒ රැකවරණය හදාගන්න යනකොට තමන් අවට ඉන්න තමන් එක්ක ඉන්න, තමන්ගේ ඥාතීන් දරුවො මේ හැමදෙනාටත් යහපත හැදෙනවා. නැත්නම් තමන්ගේ යහපත වනසාගත්ත කෙනා එක අවස්ථාවක සාරිපුත්ත මහරහතන් වහන්සේ වදාරනවා, ධනංජානි කියන බමුණාට. ධනංජානි බමුණා ඒ ප්‍රශ්න අහනකොට හිටියේ මරණාසන්න වෙලා. සාරිපුත්ත මහරහතන් වහන්සේ අහනවා ඇ ධනංජානි ඔහේ පින් කරගත්තෙ නැති ද කියලා ඇහුවා. එතකොට කිව්වා අනේ ස්වාමීනී, ඉතින් කොහෙද අපිට වෙලාවක් පින් කරගන්න. කොහේද වෙලාවක් කුසල් කරගන්න. අපිට මේ අඹුදරුවන්ගේ වැඩ නොවැ. අපිට මේ වතුපිටිවල වැඩ නොවැ. අපිට රැකියා කරන ස්ථානයේ වැඩ නොවැ. ස්වාමීනී මේ වැඩපලත් එක්ක පිනකට දහමකට ඔලුව හරවන්න අපිට වෙලාවක් නෑ කිව්වා. අදත් කියන්නෙ, අදත් ඒ වගේ ධනංජානිලා ඉන්නෙ. අපිට කෝ වෙලාවක් කියන අය. එතකොට සාරිපුත්ත මහරහතන් වහන්සේ අහනවා ඇ ධනංජානි ඔබ දැන් මෙහෙම කියනවා, ස්වාමීනී මට පින් කරගන්න වෙලාවක් නැත මේ අඹුදරුවො නිසා, ස්වාමීනී මට පින් කරගන්න අවකාශයක් නැත මේ රාජකාරී වැඩපල නිසා. ස්වාමීනී මට යහපතේ හැසිරෙන්න වෙලාවක් නැත මේ දරුවො නිසා. ස්වාමීනී මට කුසල් කරගන්න වෙලාවක් නැත මේ දරුවො නිසා කියලා ඔබ දැන්නම් කියනවා. ධනංජානි පින් නොකළ කෙනා, කුසල් නොකල

කෙනා මරණින් මත්තෙ නිරයේ යනවා. නිරයේ ගියාට පස්සෙ යමපල්ලො වදදෙන්න ලැහැස්ති වෙද්දි ඔබ මෙහෙම කිව්වොත් අනේ යමපල්ලනි මට වද දෙන්න එපා. මං පින් කරගත්තෙ නැත්තෙ කොහෙද මට පින් කරගන්න වෙලාවක් ආවෙ නැනෙ මේ අඹුදරුවො නිසා. අඹුදරුවොන්ගේ ප්‍රශ්න නොතිබිලා මට සැනසිල්ලක් තිබ්බා නම් මං පින් කරගන්නවා, වැරැද්ද මගේ නෙවෙයි. ඒ හින්දා මට දඬුවම් කරන්න එපා කිව්වොත් යමපල්ලො අහයිද කියලා ඇහුවා. ආ ඔහේගේ වැරැද්දක් නැනෙ, අඹුදරුවො හින්දානෙ ඔහේට බැරිවෙලා තියෙන්නෙ කියලා අහයිද කියලා ඇහුවා. එතකොට ධනංජානි කියනවා නෑ ස්වාමීනී එහෙම නම් වෙන් නෑ. ආ එහෙනම් ධනංජානි නොපමාව පින් කරගත යුතුයි. පින්වතුනි අපේ ජීවිත අපි හැමදෙනාම තනි තනියෙන් යන ගමනක් මේක. මේ තනි තනියෙන් යන ගමනේ එක නිවස්නයක්. එක නවාතැන් පලක් විතරයි මේ මනුස්ස ලෝකෙ. හැබැයි මේ මනුස්ස ජීවිතේ අපිට මොකක්දො යහපත් නවාතැන් පලක්, මේ මනුස්ස ජීවිතේට එනකොට තෙරුවන් සරණ තියෙනවා, සත්පුරුෂයො වැඩ ඉන්නවා. අපේ යහපත කැමැතිව ධර්මය කියන කල්‍යාණමිත්‍රයො ඉන්නවා, පින් කරගන්න අවස්ථාව තියෙනවා, සෑය වැඳගන්න අවස්ථාව තියෙනවා, බෝරජුන් වඳින්න අවස්ථාව තියෙනවා, මහා පින්කම් සංවිධානය කරනවා, ඒ පින්කම් වලට සම්බන්ධ වෙන්න අවස්ථාව තියෙනවා, ඒ පින්කම් වලට සාදු සාදු කියලා අනුමෝදන් වෙන්න අවස්ථාව තියෙනවා. ඒ පින්කම් වෙනුවෙන් දායක වෙන්න අවස්ථාව තියෙනවා, මොකක්දෝ සොඳුරු නවාතැනක්. පුංචි කාලෙකට ලැබිච්චි සොඳුරු නවාතැනක්. මෙතන හරියට පාවිච්චි කලොත් අපේ ජීවිතේට විශාල යහපතක් හදාගන්න පුලුවන්. ඒ නිසා තමන් තමන්ගේ ජීවිතේ ගැන තේරුම් ගත යුතුයි. එසේ තේරුම් අරගෙන යමක් කලාට පස්සෙ පසුතැවෙන්නේ නැත්නම් ඒ පසුනොතැවීම පිණිස හේතුවෙන බුදුරදුන්ගේ අනුශාසනවමයි කරගත යුත්තෙ. බුදුරජාණන් වහන්සේගේ අනුශාසනාව වුනේ ඔන්න ඕක. තෙරුවන් කෙරෙහි හොඳට අචලව ශ්‍රද්ධාව පිහිටුවාගන්න. තෙරුවන් ගැන පිහිටුවා ගන්නා ශ්‍රද්ධාව කාටවත් නසන්න දෙන්න එපා. තෙරුවන්ට ජීවිතේ පූජා කරන්න මේ ජීවිතේට වෙන ව්‍යසන අතරේ පින්වතුනි බරපතලම ව්‍යසනයත් අපිට වෙන්න තියෙද්දි ආයෙ අමුතු අමුතු ව්‍යසන ගැන හිතන්න දෙයක් නෑ. ජීවිතේට එන ව්‍යසන අතරේ බරපතලම ව්‍යසනය තමයි මරණය. මරණයට පත්වෙන ජීවිතයටත් බුදුරජාණන් වහන්සේ දීපු අනුශාසනාව තෙරුවන් කෙරෙහි ශ්‍රද්ධාව පිහිටුවාගන්න කියන එක නම් අනිත් ප්‍රශ්න ඉස්සරහ ඒ ගැන කවර කතා ද. වෙන වෙන ප්‍රශ්න ඒවා අපිට. අමනුස්ස ප්‍රශ්න එයි, මනුස්සයන්ගේ ප්‍රශ්න එයි, හදිසි ආපදා තත්ව එයි, අන්තවාදීන්ගේ ප්‍රශ්න එයි, ලෙඩරෝග වල ප්‍රශ්න එයි, නොයෙක් ආපදා එයි, ඒ ආපදා හැම එකක් ඉස්සරහා තෙරුවන් ගැනම ශ්‍රද්ධාව පිහිටුවා ගන්න, ඒ ශ්‍රද්ධාවට හානි වෙන්න දෙන්න එපා. මොකද ජීවිතේට ඔය සිද්ධ වෙන ව්‍යසන අතරේ මරණයට වැඩි තරම් වූ ව්‍යසනයක් නැත. මරණය නම් වූ ව්‍යසනය ඉස්සරහාත් තෙරුවන් ගැන නම් ශ්‍රද්ධාව පිහිටුවාගත යුත්තේ අනික් ව්‍යසන ඉස්සරහා කොහොමත් අපි තෙරුවන් ඉස්සරහාමයි පිහිටිය යුත්තේ. ඒ තෙරුවන් තුළ පිහිටන කෙනාට තමන්ගේ ජීවිතයේ මහා ආධ්‍යාත්ම ශක්තියක් මහා බලයක් පිහිටනවා. මොකද බුදුරජාණන් වහන්සේ වදාළානේ යේ කේචි බුද්ධං සරණං ගතා සේ නතේ ගමිස්සන්ති අපායං - යම් කිසි කෙනෙක් බුදුරජාණන් වහන්සේව සරණ ගිහිල්ලා නම් ඉන්නෙ, බුදුරදුන් සරණ ගිය කෙනාට ලැබෙන ආනිසංසය ඔහු අපායේ නම් යන්නේ නැත. යේ කේචි ධම්මං සරණං ගතා සේ නතේ ගමිස්සන්ති අපායං - යම් කිසි කෙනෙක් ධර්මය සරණ ගිහිල්ලා නම්

ඉන්නෙ ධර්මය සරණ ගිය කෙනාට ලැබෙන ආනිසංසය ඒ කෙනා අපායේ නම් යන්නේ නැත. යේ කේචි සංඝං සරණං ගතාසේ නතේ ගමිස්සන්ති අපායං. යම්කිසි කෙනෙක් සඟරුවන සරණ ගිහිල්ලා නම් ඉන්නෙ සඟරුවන සරණ ගිය කෙනාට ලැබෙන අනුසස් මෙයයි. ඔහු අපායේ යන්නේ නැත. පහාය මානුසං දේහං - මනුස්ස ජීවිතේ යම් මොහොතක යම් ඇසිල්ලක අත්හරින්න වෙද්දි, දේව කායා පරිපූරෙස්සන්ති - දෙව්ලොව උපදින්නේය. ඉතින් මේ භාග්‍යය උදාවෙනවා කෙනෙක් හොඳට තෙරුවන් කෙරෙහි ශ්‍රද්ධාව උපදවාගත්තොත්. මැරෙන ජීවිතේට ඊට වැඩි රැකවරණයක් නැත. ඊළඟට මැරෙන ජීවිතේට රැකවරණය තමයි සිත කය වචනයෙන් ධර්මයේ හැසිරෙන්න මහන්සි ගන්න එක. ධර්මයේ තියෙනවා ඉතාම පැහැදිලිව කල්‍යාණ මිත්‍රයෝ, සත්පුරුෂයෝ ධර්මය නිතර නිතර කියාදෙනවා. ඒ අහන ධර්මය බොහෝම පහන් සිතින් අහලා ටික ටික හරි ධර්මය තමන්ගේ ජීවිතයට ගලපගන්න මහන්සි ගන්න. ධර්මය ගලපාගන්න පුලුවන් වුනත්, බැරි වුනත් ධර්මය ගැන හිත පහදවාගන්න. මේ බුදුරජාණන් වහන්සේ වදාරන කාරණය සත්‍යයක් කියලා. මේක නම් ඒකාන්ත සත්‍යයක්, මේක නම් ඒකාන්ත සත්‍යයක් කියලා හැමතිස්සෙම බණ පදයට හිත පහදවන්න. හිත පහදව පහදව ටික ටික උත්සාහවත් වෙන්න තමන්ගේ ජීවිතයට ඒ ධර්මය ගලපා ගන්න. නිතර බණ අහනවා නම් පින්වතුනි කෙනෙක් නිතර බණ අහන කෙනාට ඒ දහමට අනුව ආකල්ප සකස් වෙනවා. ඒ ආකල්ප සකස් වෙනකොට කොහොමත් එයා ටික ටික ධර්මානුකූල වෙනවා. ඒ නිසා ඔබට බොහොම හොඳ අවස්ථාවක්, මේ ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන්විදුලිය ආරම්භ වෙච්චි නිසා නිතර බණ පද අහන්න, නිතර බණ ඇසීමේ භාග්‍යය, නිතර බණ කියලා කියන්නෙ බුදු බණ ඇසීමේ භාග්‍යය ඔබට උදාවෙලා තියෙනවා. ධර්ම දේශනා විදියට උතුම් බුදු බණ පදම අහන්න අවස්ථාව ඔබට උදාවෙලා තියෙනවා. ඒ අවස්ථාවෙන් අපි හොඳට ප්‍රයෝජන ගන්න ඕන. හැකි හැම අවස්ථාවකම බණ අහන්න. හැකි හැම අවස්ථාවකම ධර්මය කියවන්න. ධර්මය ඉගෙන ගන්න. ඊළඟ එක තමයි සිත කය වචනයෙන් යහපතේ හැසිරීමට මහන්සි ගැනීම. මේ යහපතේ හැසිරීම කියන කාරණය ගත්තහම සිත කය වචනයෙන් යහපතේ යෙදීම, සුචරිතයේ යෙදීම, කුසල් කිරීම කියන එක පින්වතුන්ලා අසා තිබෙන කාරණාවක්. ඒ ගැන තව සරලව කියනවා නම් සිත කය වචනය මෙන්න මෙහෙම හදාගත යුතුයි අපි. බුදුරජාණන් වහන්සේ දේශනා කලා ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් හෝ මේ සිත කය වචනය හදාගන්න ඕන කිච්චා තමන්නෙග් තමන්ටම දොස් නොලැබෙන විදියට. බොහොම වටින කාරණාවක්. අපි සිත කය වචනය හසුරුවාගන්න ඕන පින්වතුනි, තමන් තමන්ට දොස් නොකියන විදියට. තමන් තමන්ට දොස් කියන්නේ නැති වෙන විදියට ජීවිතේ හදාගන්නවා කියලා කියන්නේ පින්වතුනි ඒක හරි සැප සහගත ජීවිතයක්. අපි හිතමු අපිට ලෝකෙම ප්‍රශංසා කරනවා කියලා, ලෝකෙම කොඩි දාලා අපිව පිළිගන්නවා, ඒ වුනත් වැඩක් ද තමන්ගේ හිත තමන්ටම ප්‍රශංසා කරන් නැත්නම්, ලෝකෙම කොඩි දැම්මත් වැඩක් නෑ. හැබැයි ලෝකෙ ඉස්සරහා අපිට කිසිම තැනක් නැති වුනත් අපේ හිත අපිට ප්‍රශංසා කරනවා නම් අපි කටයුතු කරපු විදිය අපිට චෝදනා නොකරනවා නම් ඒ කෙනාට සැප තියෙනවා. ලෝකෙ ඉස්සරහම කොඩි දාගෙන හිටියත් පින්වතුනි මැරිලා යනවා. ලෝකයා ඉදිරියේම කොඩි උස්සගෙන හිටියත් අපි මැරිලා යනවා. ඒ මැරිලා යනකොට හිතේ සැනසිල්ලෙන් මැරෙන්න තියෙනවා නම් ඊට වඩා දෙයක් නෑ. අන්න ඒ නිසා තමන්ගේ හිත තමන්ට චෝදනා නොකරන විදියට කය හදාගන්න. ඔබ මේ විදියට කය හසරුවපු එකෙක් කියලා ඔබේ හිත ඔබට චෝදනා නොකරන

විදියට. තමන්ගේ හිත තමන්ට චෝදනා නොකරන විදියට තමන්ගේ වචන හදාගන්න. අනිත් අයව රවට්ටන, අනිත් අයව බිඳවන, අනිත් අයව රිදවන එහෙම වචන කතා කරන්න එපා. තමන්ගේ හිත තමන්ටම ප්‍රශංසා කරන අන්න එහෙම වචන කතා කරන්න. ඉතින් ඒකට ඔබට හොඳටම අවස්ථාව තියෙනවානෙ. පුලුවන් තරම් කතා කරන්න මහන්සි ගන්න බුදුරජාණන් වහන්සේගේ ධර්මය. අනිත් අයත් එක්ක නිකං පොඩ්ඩක් කතා කලත්, බුදුරජාණන් වහන්සේගේ ධර්මය ගැන කතා කරන්න. මේ බණ කියන විදියට නෙවෙයි, ඔබට පුලුවන්, භාග්‍යවතුන් වහන්සේ මෙහෙම වදාළානෙ. බුද්ධ දේශනාවේ මෙහෙම තියෙනවානෙ, එහෙම කතා කරන්න හුරු වෙන්න. තමන්ගේම හිත තමන්ට ප්‍රශංසා කරයි. ඊළඟට තමන්ගේ හිතත් හසුරුවගන්න තමන්ට චෝදනා නොකරන විදියට. අනිත් එයගේ ඒවට ලෝභ කරන්න එපා, අනිත් අයගේ දේවල් වලට ඕනවට වඩා කිපෙන්න යන්න එපා. මෛත්‍රිය කරුණාව ආදී මුදිතාව ආදී ලස්සන ගුණ වලින් තමන්ගේ හිත පෝෂණය කරගන්න. අන්න එහෙම හිතක් අපි හදාගත්තොත් එහෙම මරණයට පෙර මේ ජීවිතේ අපේ ජීවිතේ අපිටම ප්‍රශංසා කරයි. ඊළඟට හොඳට අවස්ථාව තියෙනවා පින්වතුනේ පින් කරගන්න, කුසල් කරගන්න, ඒ අවස්ථාවෙන් ප්‍රයෝජන අරගෙන පින් කුසල් රැස් කරගන්න. අන්න ඒ කෙනාට මේ ජීවිතයේදීම නුවණැත්තන්ගේ ප්‍රශංසා ලැබෙනවා, පරලොව ජීවිතේ සුගතියක උපදින විදියට ජීවිතේ හැඩගැහෙනවා. එයා තවත් දක්ෂයෙක් නම්, එයා තවත් පින්වන්තයෙක් නම් එයාට මේ ජීවිතේම මාර්ග ඵල ලබන්නත් පුලුවන්. ඒ බව හොඳට තේරෙනවා, මේ අද අපි ඉගෙන ගන්න උත්තරා තෙරණියගේ චරිත කතාවෙන්. මොකද උත්තරා තෙරණියට ලැබිච්චි අනුශාසනාව ඕකනෙ. ඒ අනුශාසනාවට අනුව ඒ උත්තමාවිත් කටයුතු කලා. කටයුතු කරද්දී චිත්තං උපට්ඨ පෙත්වාන ඒකග්ගං සුසමාහිතං - හිත හොඳින් එකඟ කරගෙන, හිත පිහිටුවාගෙන මේ සංස්කාරයන් අනාත්ම වශයෙන් නුවණින් දකින්න ආත්ම වශයෙන් නොවේ. ඉතින් එහෙම අනුශාසනාවකුත් කලා අපේ පටාචාරා රහත් තෙරණින් වහන්සේ. මේ සංස්කාර හැම එකක්ම අනාත්ම වශයෙන්, අනාත්ම කියලා කිව්වෙ තමුන්ගේ වසඟයේ පවත්වන්න බැරි දේවල් වශයෙන් දකින්න. මේ ලෝකෙ හටගත්ත හැමදෙයක්ම අනාත්මයි. අපිට ඕන විදියට කිසිවක් පවත්වන්න බෑ. අපේ වසඟයට ගන්න බෑ, ඒ අනාත්ම ස්වභාවය හොඳට දකින්න. එතුමියගේ වචනය මං හිතට ගත්තා. ඒ පටාචාරාවගේ අනුශාසනාවේ පිහිටියා. පා සෝදගත්තා. මං හුදෙකලා තැනක වාඩි වුනා. ඒක බොහොම වටින එකක්. නුවණැති සත්පුරුෂයෙක්ගේ සත්පුරුෂ උත්තමයෙක්ගේ වචනය පිළිගැනීම, හිතට ගැනීම. බලන්න සැපයට පත්වෙච්චි කෙනාට එහෙම වචනයක් කිව්වහැකි. ඇතැම්හු නිරය වගේ දුක්ඛිත උපත් වල ඉපදිලා ඒ අය කියනවා අනේ මට සත්පුරුෂයො මුණගැහුනා මට කල්‍යාණමිත්‍රයො මුණගැහුනා, මට යහපත පෙන්වන අය මුණගැහුනා, මං ඒ අය ගණන් ගත්තෙ නෑ, මං ඒ වචන නොසලකා හැරියා. ඒ වචන නොසලකා හැරපු කෙනා විඳවනවා. ඒ වචන හිතට ගත්තු කෙනා සැපයට පත්වෙනවා. රෑ පළමු යාමයේ පුබ්බේනිවාස ඥාණය මං ලබාගත්තා. රෑ මධ්‍යම යාමයේ දිවැස් නුවණ පිරිසිදු කරගත්තා. රෑ පහන් වෙනකොට අවිද්‍යාව නම් වූ අන්ධකාර කෙලෙස් කඳ සම්පූර්ණයෙන්ම බිඳලා දැම්මා. මං එදා උදේ නැගිට්ටෙ ත්‍රිවිද්‍යාව ලබාගෙන. ඔබතුමියගේ අනුශාසනාව මං කලා. සුර අසුර යුද්ධය ජයගත්තට පස්සෙ තව්තිසා දෙවියෝ සක්‍ර දෙවියන්ට නමස්කාර කරනවා වගේ මාත් ඉන්නෙ ඔබතුමිය පෙරටු කරගෙන. මං දැන් ත්‍රිවිද්‍යාලාභී නිකෙලෙස් කෙනෙක්. ඔන්න ඔය විදියටයි උත්තරා අර්හත් තෙරණිය තමන් වහන්සේගේ ථෙරීගාථා

වදාළේ. ඒ නිසා පින්වතුනේ ඒ ථෙරී ගාථා ඇසුරු කරගෙන අද ශ්‍රවණය කරපු උතුම් බණ පදයෙන් ඔබ විශේෂ අවවාදයක් ලැබුවා ඒ තමයි මේ මරණයට පත්වෙන ජීවිතේ අපි කොහොමද හදාගත යුත්තේ මැරෙන්න පෙර කියන එක. ඒ මැරෙන්න පෙර හොඳට සරණේ පිහිටලා පින් කරන්න, කුසල් කරන්න, ධර්මයේ හැසිරෙන්න, යහපතේ හැසිරෙන්න මහන්සි ගන්න. ඒක තමයි අපි කරගත යුතු දේ. ඒ දේ කරගත්තොත් පින්වතුනේ බුදුරජාණන් වහන්සේ දේශනා කලා එක අවස්ථාවක මෙහෙම. චිරප්පවාසිං පුරිසං ධූරතො සොත්ථිමා ගතං - දුරු රටක සේවා කටයුතු කරන ලද පුරුෂයෙක් ඒ සේවා කටයුතු නිම කොට යළි මව් රටට එන්නේය. එසේ පැමිණෙනා විට, ඥාති මිත්තා සුහජ්ජාච - ඥාතීනුත් හිතමිතුයෝත් සුහර්දයෝත් ඔහු පැමිණෙන්නේය කියන කරුණ දැනගෙන, අභිනන්දං ති ආගතං - ඔහුගේ පැමිණීම ගැන බොහෝ සේ සතුටු වන්නේය. ඔහුව පිළිගැනීමට පෙරට යන්නේය. ඔහු උදෙසා ප්‍රණීත භෝජන සකසන්නේය. ඔහු උදෙසා සියලු සත්කාරයො සකස් කරන්නේය. ඔහුට සුවය සදන්නේය. ඔහු තනි නොකරන්නේය. තතෙව කත පුඤ්ඤං ති අස්මා ලෝකා පරං ගතං - ඔන්න ඔය විදියමයි, යම් කිසි ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් හෝ මේ ජීවිතේ පින් කරපු කෙනෙක් විදියට මෙලොවින් පරලොවට ගියොත් කල පින් ඇති කෙනෙක් විදියට මෙලොවින් පරලොවට ගියොත්, දානෙ දීලා පින් කරගෙන තිබුනොත්, සිල් රැකලා පින් කරගෙන තිබුනොත්, භාවනා කරලා පින් කරගෙන තිබුනොත්, තෙරුවන් සරණේ පිහිටා පින් කරගෙන තිබුනොත්, සෑය වැඳලා පින් කරගෙන තිබුනොත්, බෝ රජුන් පුදලා පින් කරගෙන තිබුනොත්, මහසඟරුවන පුදලා පින් කරගෙන තිබුනොත්, නොයෙක් ආකාරයෙන් තමන්ගේ ජීවිතයට පින් කරගෙන තිබුනොත්, වැඩිහිටියන්ට සත්කාර කරලා තිබුනොත්, පිදිය යුතු උතුමන් පුදලා තිබුනොත්, තමන්ගේ ජීවිතයට පින් කරගත්ත ස්ත්‍රිය හෝ පුරුෂයා මෙලොව අත්හැර පරලොවට යන කල්හි පුඤ්ඤානි පතිගන්හන්තු පියං ඥාතී ආගතං - ප්‍රියමනාප ඥාතියා සේ තමාව තනි නොකර පිළිගන්න පෙරට එන්නේ පිනයි. මෙලොව අත්හැර පරලොවට යන කල්හි ප්‍රිය ඥාතියෙකු සේ තමාව අත්නොහැර තමා පිළිගැනීමට පෙරට එන්නේ පිනයි. ඒ නිසා රැස් කරගත යුත්තේ පිනයි. හොඳට පින් රැස් කරගන්න. මේ ලැබිච්ච අවස්ථාව අත්හැර ගන්න එපා. තමන්ගේ ජීවිතේට හොඳට පින් කරගෙන මරණය ඉදිරියේ අසරණ නොවෙන ජීවිතයක් හදාගන්න, හැමදෙනාම උත්සාහවත් වෙන්න. ඉතින් අද උත්තරා තෙරණියගේ චරිතාපදානය ශ්‍රවණය කලා. උත්තර තෙරණියට නමස්කාර කරමින්, අපි අධිෂ්ඨාන කරගනිමු අපිටත් මේ ලැබිච්ච මනුස්ස ජීවිතේ බුද්ධ, ධම්ම, සංඝ කියන තෙරුවන් කෙරෙහි ශ්‍රද්ධාවේ හිත පිහිටුවාගෙන හොඳට දහමේ හැසිරෙන්න, හොඳට කුසලයේ හැසිරෙන්න, යහපතේ හැසිරෙන්න පින් කරගන්න අවස්ථාව ලැබෙත්වා. ඒ රහතන් වහන්සේලා සැනසුනු, රහත් තෙරණිවරු සැනසුනු නිවනේ අපිටත් සැනසෙන්න ලැබේවා, සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලු පුණ්‍යධර්මයන් අනුමෝදන් කරමු අපි පළමුකොට සියලු දෙවිවරුන්ට. සක්දෙවිඳුන් සතරවරම් දෙවිවරු ප්‍රධාන සියලු දෙවිවරු සතුටු සිත් ඇතිව මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. අල්පේශාක්‍ය මහේශාක්‍ය ලෝක පාලක සියලු දෙවිවරු පින් අනුමෝදන් වෙත්වා, ඔබ අප හැමදෙනාගේ ඉෂ්ටකාමී දෙවිවරු පින් අනුමෝදන් වෙත්වා. ලංකා භූමිය සුරකින සියලු දෙවියෝ පින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන්ව දෙවියෝ දිව්‍ය සැපයෙන්, දිව්‍ය ආශ්වයසීයෙන් දිව්‍ය යස ඉසුරින් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ ආශිර්වාදය නිරන්තරයෙන් අප හැමදෙනා හට දෙවියෝ සළසත්වා. දෙවියෝද සංසාර දුකින් අතමිදේවා,

සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. ගුරු දේවයන් වහන්සේ නිදුක්ව නිරෝගීව දීර්ඝායුෂ සම්පත්තියම ලබත්වා. ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන් අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අද දවසේ ධර්ම දානය සිදු කරන ඒ සුපින්වතුන්ලා මේ ධර්ම දානය සිද්ධ කරන්නෙ ප්‍රධාන අරමුණක් මුල් කරගෙනයි, 2020 ජූනි මාසෙ 06 වෙනි දින, එනම් මීට වර්ෂයකට පෙර මිය පරලොව යන්න යෙදුනා වූ පින්වත් ඒ.ජේ. සමරකෝන් පියාණන්ට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. මියපරලොව යන්න යෙදුනු පින්වත් ඒ.ජේ. සයිමන්, ඒ.ජේ. සුමනාවතී ආච්චි, ආර්.ඩී. සමන්දරා සීයා, කේ.ජී. දිනවතී ආච්චි, කමලාවතී ලොකුඅම්මා සහ ඩී.ජී. විජේසිංහ ලොකුතාත්තා යන ඒ නමින් මියගියා වූ සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට මේ සියලු පින්පෙත් අනුමෝදන් වෙත්වා. අනන්ත සසර පුරාවට මියපරලොව යන්න යෙදුනා වූ සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන් වෙලා ඒ ඥාතීන්ගේ පරලොව ජීවිත සැපයෙන් සැපයටම පත්වෙත්වා. අපගේ ඥාතීන් මේ දුක් සහිත සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් යුතුව පුණ්‍යානුමෝදනාව සිදු කරන්න. කොරෝනා වෛරසය හේතුවෙන් රෝගාතුරව සිටින ලංකාවාසී ලෝකවාසී හැමදෙනා හට ඉතා ඉක්මණින්ම නිදුක් නිරෝගී සුව ශාන්තිය ලැබෙත්වා කියලා අපි සෙත් පතමු. සමරකෝන් පවුලේ දූ දරු පිරිස සහ මෑණියන් ඇතුළු ඒ සුජීවත්ව සිටින සියලු දෙනා වෙනුවෙනුයි, අද ධර්ම දානය සිදු කරනු ලැබුවේ ඒ සුපින්වත් හැමදෙනාට මේ සියලු පින්පෙත් අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. ධර්මදානය සිදු කරන පින්වතුන්ලාට තමන්ගේ ජීවිතය වලට සියලු යහපත, අභිවෘද්ධියම සැළසෙත්වා. රැකී රක්ෂා ආදී කටයුතුත් දූදරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදී සියල්ලත් සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා, දියුණුවට පත්වෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාට, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ හැමදෙනාට, සුපින්වත් ඔබ සෑම සියලු දෙනාට, තෙරුවන් සරණින් සියලු දෙවියන්ගේ රැකවරණින් සියලු යහපත සියලු අභිවෘද්ධිය උදාවේවා. සුවසේ පින් කරගන්න සුවසේ ගුණදහම් දියුණු කරගන්න මේ තෙරුවන් සරණ මුණගැහිච්චි ජීවිතේ හොදට තෙරුවන් සරණ තුල පිහිටන්න. ධර්මයේ හැසිරෙන්න, කුසලයේ හැසිරෙන්න, යහපතේ හැසිරෙන්න, පින් රැස් කරගන්න හැමදෙනාට අවකාශ ලැබෙත්වා. ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න හැමදෙනාට වාසනාව ලැබේවා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=0zL0x2utKUE

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදු සාදු සාදු!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද දවසේ ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු මේ උතුම් ධර්ම දේශනාවට අනුග්‍රහය දරමින් ධර්මදානමය පිංකම සිද්ධ කරන්නෙ නො.208, දාම්පෙ, මීගොඩ යන ලිපිනයේ පදිංචි පින්වත් ඩී.ඒ.එස්. දර්ශිකා මහත්මිය විසින් එතුමිය මේ ධර්ම දානය කරන්නේ ප්‍රධාන අරමුණක් හිතේ තියාගෙන. ඩී.ඒ. රූපසිරි පියාණන්ට, සිරියලතා පෙරේරා මෑණියන්ට මේ පිනේ ආශිර්වාදයෙන් නිදුක් නිරෝගී සුවය ලැබේවා, දීර්ඝායුෂ සැලසේවා කියන ප්‍රාර්ථනාවෙනුයි ධර්ම දානය සිද්ධ කරන්නෙ. යොච අමතං ගදො හොති යො ධම්ම මනුස්සාසති - යම් කිසි කෙනෙක් ධර්මය දන් දෙනවා යනු අමෘත දානය දීමයි. ගොඩාක් සතුටු වෙන්න. අමෘත දානය කියලා කිව්වෙ පින්වතුනි සංසාර ගමනේ යන සත්වයෙකුගේ ජීවිතය මුළුමනින්ම සැපවත් වෙන නිසා, ධර්මයට අමෘථය කියලා කිව්වෙ සසර ගමනේ යන සත්වයෙකුගේ ජීවිතය මුළුමනින්ම සංසිඳෙන නිසා, මුළුමනින්ම සැපයට පත්වෙන නිසා. සියලු සංතාප, සියලු පීඩා, සියලු රෝග දුරු වෙන නිසා. ඒ ධර්මය යමෙක් ලබාදෙනවා නම් ඒ ධර්මය දන්දෙනවා නම්, ඒ ධර්මය කියාදෙනවා නම් ඔහු දෙන්නේ අමෘතයයි. ඒ නිසා අද ධර්ම දානය කරන පින්වතුන්ලා සතුටු වෙන්න, අමෘත දානය අද දවසේ කරන්නෙ. අද මේ දේශනාවේදී අපි අහනවා චාලා කියන රහත් තෙරණින් වහන්සේගේ චරිතාපදානය. එතුමියගේ චරිතාපදානයේදී අපිට ගොඩාක් ඉගෙන ගන්න තියෙන්නෙ ධර්ම කාරණාමයි. මොකද චාලා තෙරණින්වහන්සේ කියලා කිව්වහම මා හිතනවා සුපින්වතුන්ලාත් බොහෝම දන්නවා චාලා තෙරණිය කියලා කියන්නෙ කවුද කියලා. චාලා උපචාලා සීසූපචාලා මේ කවුද, ධර්ම සේනාධිපති සාරිපුත්ත මහරහතන් වහන්සේගේ සහෝදරියො තුන්දෙනා. ඒ සහෝදරියන්ගෙන් එක්කෙනෙක් තමයි චාලා. සාරිපුත්ත මහරහතන් වහන්සේ ගෞතම ශාසනයේ පැවිද්ද ලැබුවාට පස්සෙ ඒ සහෝදරියො තුන්දෙනාත් ගෘහ ජීවිතය අත්හැරලා පැමිණිලා පැවිදි වුනා. පැවිදි වෙච්චි ඒ තුන්දෙනා වහන්සේම උතුම් මහරහත් තෙරණින් වහන්සේලා බවට පත්වුනා. ඉතින් අද ඉගෙන ගන්නෙ එයින් චාලා කියන තෙරණිය ගැන. මේ චාලා තෙරණියගේ චරිතාපදානයේ මේ ථෙරීගාථා වල මෙන්න මේ විදියට තමයි

ගාථාව සඳහන් වෙන්නෙ. සතිං උපට්ඨ පෙත්වාන භික්ඛුනී භාවිතින්ද්‍රියා පටිවිජ්ජී පදං සන්තං සංකා රූප සමං සුඛං - ඒ භික්ෂුණිය ශ්‍රද්ධා ආදී ඉන්ද්‍රියන් දියුණු කරගෙන ඉන්නෙ. හොඳට සිහිය පිහිටුවාගෙන ඉන්නෙ. සංස්කාරයන් සංසිඳීමේ සැපය වූ ශාන්ත නිවන සාක්ෂාත් කරලා ඉන්නෙ. ඒ විදියටයි ඒ උත්තමාවිය ගැන වර්ණනා කළේ. මේ ථෙරීගාථා ආරම්භ වෙනකොටම චාලා තෙරණිය ගැන එක වර්ණනාවක් එක්කයි මේ ගාථා ඇරඹෙන්නෙ. චාලා තෙරණියගේ ගාථා අන්තර්ගත වෙන්නෙ පින්වතුනි ථෙරී ගාථා පොත් වහන්සේගේ අට්ඨක නිපාතයට වෙන්න. ගාථා අටක් මෙහි තිබෙනවා. ඔය චාලා කියන මහරහත් භික්ෂුණිය සැවැත්නුවර ජේතවනාරාමයේ වැඩ ඉන්න කාලයේ එක දවසක් උදේ වරුවේ සිවුරු පොරවාගෙන පාත්‍රා සිවුරු අරගෙන සැවැත් නුවරට පිඬු සිඟා වැඩම කලා. සැවැත් නුවර ගෙපිළිවෙලින් පිණ්ඩපාතයේ වැඩම කරලා ලැබිච්චි දානය වළඳලා දහවල් කාලය ගත කරන්න හිතාගෙන ඒ උත්තමාවිය පිටත් වුනා අන්ධ වනයට. අන්ධ වනය කියලා කිව්වහම පින්වතුනි ඒක මුණිවරුන්ගේම වනයක්. අන්ධ වනයේ තමයි ගොඩාක් භික්ෂූන් භික්ෂුණීන් වහන්සේලා විවේක සුවයෙන් වැඩ වාසය කළේ. ඔය අන්ධ වනය කියන වචනය බුද්ධ දේශනාව කියවනකොට බොහෝ සේ අහන්න ලැබෙන එකක්. ඉතින් මේ අර්හත් උත්තමාවියත් අන්ධ වනය ඇතුලට ගියා. අන්ධ වනයේ ඇතුලටම ගිහිල්ලා එක්තරා රුක් සෙවණක දහවල් කාලයේ විවේක සුවයෙන් වාඩිවෙලා හිටියා. එතකොට මේ වෙලාවේ මාරයාට හිතක් උපදිනවා මේ තනිපංගලමේ ඉන්න චාලා භික්ෂුණියව අවුල් කරලා දාන්න ඕන. චාලා භික්ෂුණියගේ හිත විසුරුවලා දාන්න ඕන. මේ ධර්ම මාර්ගය තුළ පිහිටුවාගන්න බැරි එකක් බවට පත් කරන්න ඕන කියලා ලාමක හිතක් මාරයාට හටගත්තා. එතකොට මාරයා දන්නෙත් නෑ මේ වැඩ ඉන්නෙ කෙලෙස් නැති තෙරණියක් කියලා. හරි ආශ්චර්‍යයියි. මාරයා චාලා භික්ෂුණිය ළඟට ඇවිල්ලා ඒ භික්ෂුණියට කියනවා මෙන්න මෙහෙම. පනුද්දිස්ස මුණ්ඩාසි සමනේවීදියස්සති - ඔයා ඔය හිස මුඩු කරගත්තේ කවුරු වෙනුවෙන්ද? හරියට පේන්නේ නම් ශ්‍රමණියක් වගේ. නච රෝසේචි පාසම්බේ කිමදං චරසි මුහමුවා? ඇයි තාපසියක් වෙන්න කැමැති නැද්ද? මෝහයෙන් මුලා වෙලා නේද ඔය යන්නෙ, ඔහොම ඇහුවා. ඔය කෙස් ඉවත් කරලා හිස මුඩු කරගෙන ඉන්නෙ කවුරු වෙනුවෙන්ද කියලා අහනවා. ලස්සන කේශකලාපය කා වෙනුවෙන්ද කපලා ඉවත් කළේ. කෙස් ඉවත් කරගෙන මුඩු හිසක් ඇතිව හරියට පේන්නෙ නම් ශ්‍රමණියක් වගේ. ඇයි තාපසියක් වෙන්න කැමැති නැද්ද කියලා අහනවා.

මෝහයෙන් මුලාවෙලා. ඒ කියන්නෙ මේ තාපසිය කියන එක ශ්‍රමණියට වඩා හොඳයි කියලා තමයි මෙයා මේ අදහස් කරන්නෙ. වෘක්ෂ ප්‍රතිපත්තිය ඇති තාපසියක් වුනා නම් ඔයිට වඩා හොඳ නැද්ද? ඔය වැරදිලා නේද යන්නෙ? ඔය පාර මුලා වෙලා නේද තියෙන්නෙ කියලා තමයි මේ කතන්දරය ඔය කියන්නෙ. දැන් මෙහෙම කියනකොට කෙනෙකුට ධර්මය තුළ නිෂ්ටාවක් නැත්නම්, ධර්මය තුළ නිෂ්ටාවක් නැති කෙනා අවුල් යනවා. දැන් මේ වැඩ ඉන්නෙ රහත් තෙරණියක්. රහත් තෙරණින් වහන්සේ බැලුවා කවුද මේ, මේ විදියේ වචන මාත් එක්ක කතා කරන්න එන්නෙ, මේ විදියට මගේ හිත අවුල් වෙන්න, හිතක් අවුල් කරන වචන කවුද මේ කතා කරන්නෙ? එහෙම බලනකොට ඒ උත්තමාවිය නුවණින් දැක්කා මේ වෙන කවුරුවත් නෙවෙයි මේ ඉන්නෙ මාරයා නොවැ. එතකොට මාරයාට කෙලින්ම කතා කලා. ඉතො බහිද්ධා පාසන්ඩා දිට්ඨියො උපනිස්සිතා න තෙ ධම්මං විජානන්ති න තෙ ධම්මස්ස කොවිදා - ඒයි මාරය, තාපසවරු  ඉන්නෙ බුදු සසුනින් බැහැරවයි. ඒ ගොල්ලො ඉන්නෙ නොයෙක් මතවාද වල එල්ලිලා. ඔවුන්ට මේ ධර්මය ජේන් නෑ. ඔවුන් මේ ධර්මය දකින්න දක්ෂත් නෑ. බුදුරජාණන් වහන්සේගේ ධර්මය පින්වතුනේ මතවාද වල එල්ලිලා, තර්කයේ එල්ලිලා, වාද කරලා අල්ලන්න පුලුවන් එකක් නෙවෙයිනෙ. බුදුරජාණන් වහන්සේම ධර්මය අවබෝධ කරගෙන උදානයක් පහළ කලා, අධිගතො කො මෙය්‍යායං ධම්මො - මා අවබෝධ කරගත් ධර්මය, ගම්භීරො දුද්දසො දුරනොබෝධො - ගැඹුරු වූවකි, දකින්න දුෂ්කර වූවකි, අවබෝධයට දුෂ්කර වූවකි. අතක්කාවචරො - තර්ක කර කර තර්කයේ පැටලෙන ඇයන්ට නම් ධර්මය අල්ලන්න නොහැකියි. නිපුනො පණ්ඩිතවේදනීයො - ඉතා සියුම් වූ මේ ධර්මය නුවණැත්තන්ට ගෝචර වේ. එහෙමනෙ ධර්මයේ ස්වභාවය, වාද කර කර වාදයෙන් වාදය තර්කයෙන් තර්කය පටලවලා මේක අල්ලන්න බෑ. දැන් බුදුරජාණන් වහන්සේ ළඟට ඒ කාලෙ එහෙම වාදකාරයො අවානෙ. එක අවස්ථාවක එක පුද්ගලයෙක් ඇවිල්ලා බුදුරජාණන් වහන්සේට කියනවා ස්වාමීනී, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්ස, මගේ අදහස මේක. මං කිසිම දෘෂ්ටියක් ප්‍රිය කරන් නෑ කිව්වා. එතකොට බුදුරජාණන් වහන්සේ ඇහුවා, ඈ බමුණ ඔහේ කිසිම දෘෂ්ටියක් ප්‍රිය කරන් නෑ කියන දෘෂ්ටිය ප්‍රිය කරනවා නේද කියලා ඇහුවා. ඔය මං කිසිම දෘෂ්ටියක් ප්‍රිය කරන් නෑ කියන දෘෂ්ටියට ඔහේ තදින් අහුවෙලා ඉන්නෙ නේද කියලා ඇහුවා. කෙලෙස් නැසූ බුදුරජාණන් වහන්සේ. මනුස්සයා පටලැවිලා පටලැවිලා යනවා එක එක දෘෂ්ටි වල. බුදුරජාණන් වහන්සේ දෘෂ්ටි ජාලයෙන් නික්මිලා ඒ දෘෂ්ටි වලින් නික්මෙන

වැඩපිළිවෙල වදාළා. නුවණැත්තො ඒක ඇල්ලුවා. ඒ අල්ලගත්ත රහතන් වහන්සේලා, රහත් තෙරණින් වහන්සේලා දෘෂ්ටි ජාලයෙන් එළියට ඇවිල්ලා ලස්සනට කරුණු පහදනවා. තාපසයො ඉන්නෙ බුද්ධ ශාසනයෙන් බාහිරව කියනවා. ඒ තාපසයො නොයෙක් නොයෙක් මතිමතාන්තර වල එල්ලිලා ඒවාගේ පටලැවිලා ඉන්නෙ ඔවුන්ට මේ ධර්මය පේන්නෙත් නෑ, ඔවුන් මේ ධර්මය දකින්න දක්ෂත් නෑ. අත්තෙ සක්කෙ කුලේ ජාතො බුද්ධො අප්පටිපුග්ගලො සො මේ ධම්ම මදේසේසි තීනං සමතික්කමං - නමුත් ශාක්‍ය වංශයේ ඉපදුනු අසහාය මුණිවරයෙක් තමයි බුදුසමිඳුන් කියලා කියන්නෙ. ඔය සියලුම දෘෂ්ටීන් ඉක්මවා යන ධර්මය උන්වහන්සේ මට කියලා දීලා තියෙන්නෙ. ශාක්‍ය කුලයේ ඉපදිච්චි අසහාය මුණිවරයා, බලන්න මේ රහතන් වහන්සේලා අරහත් තෙරණිවරු ඒ භාග්‍යවතුන් වහන්සේවම ඉස්මතු කරන හැටි, බුදුරජාණන් වහන්සේවම අනුත්තරයි කියලා ඉහළට ඔසවා පෙන්වන හැටි. තමන්ට සරණ ලබා දීපු ශාස්තෘන් වහන්සේවම පෙන්වන හැටි. තමන්ට සුවය ලබා දීපු ශාස්තෘන් වහන්සේම පෙන්වන හැටි. තමන්ගේ ජීවිතය ඒකාලෝක කරපු සම්බුදු හිරුමඬල පෙන්වන හැටි, තමන්ගේ ජීවිතය සැනසිල්ල ළඟා කරපු සම්බුදු සඳමඬල පෙන්වන හැටි බලන්න. මේ තමයි රහතන් වහන්සේලා. මේ තමයි සැබෑම රහතුන්, සැබෑම රහත් තෙරණිවරු. ඒ රහතන් වහන්සේලා අරහත් තෙරණිවරු කලේ නරං තිතේ සීහනාදං බුද්ධාලෝකෙ අනුත්තරාති - බුදුරජාණන් වහන්සේම ලෝකයේ අනුත්තරීය වන සේක කියලා සිංහනාද කරපු එකයි. දුක්ඛං දුක්ක සමුප්පාදං දුක්ඛස්සච අතික්කමං අරියං චට්ඨංගිකං මග්ගං දුක්ඛූප සමගාමිනං - ඒ බුදුරජාණන් වහන්සේ කියා දීපු ධර්මය තමයි කියනවා දුකත් දුකේ හටගැනීමත් ඒ දුක ඉක්මවායාමත්, ඒ දුක සංසිඳෙනා මාර්ගයත්. මේ චතුරාර්ය සත්‍යය ධර්මය තමයි කියනවා බුදුරජාණන් වහන්සේ යළි යළිත්, යළි යළිත් ඉස්මතු කරමින් දේශනා කරපු දේ. දෘෂ්ටි මතවාද ජාලා ඔක්කොම ඉක්මවා යනව ඒ චතුරාර්ය සත්‍යය ධර්මය තමයි බුදුරජාණන් වහන්සේ ලෝකයට දේශනා කලේ. අනිත් අය දෘෂ්ටි වල පටලැවිලා දෘෂ්ටි ජාලාවේම හිරවෙලා දෘෂ්ටිත් එක්කම මියගියා. මේ ලෝකයේ නොයෙක් නොයක් මතිමතාන්තර වල හිරවෙන හැමදෙනාටම උරුම වෙන්නෙ පින්වතුනේ ඒක. බුදුරජාණන් වහන්සේ උපමාවකට වදාළා මේ වගේ. මනුස්සයෙකුට සතුරෙක්ගෙන් ඊතල පහරක් වැදුනා. විස පොවාපු ඊතලයක් ඔහුගේ කය පසාරු කරගෙන ගියා. එතකොට ඔහුගේ යහපත කැමැති අය මේ ඊතල පහර කාපු මනුස්සයාව උස්සගෙන ඉක්මණට අරගෙන ගියා දක්ෂ

වෙදෙක් ළඟට. ඒ වෙදා ළඟට අරගෙන ගියාට පස්සෙ වෙදා ලැහැස්තියි දැන් මේ මනුස්සයාගේ ඇඟ දිගේ විස දුවන්න කලින් ඊතලය ගලවලා අයින් කරලා අර දුවපු විස ටිකට බෙහෙතක් කරන්න. ඒ අදහසින් ඊතලය අල්ලන්න ලැහැස්ති වෙනකොටම ඊතල පහර කාලා කෙඳිරි ගගා ඉන්න මනුස්සයා කියනවා හා හා වෙද මහත්තයා, ඊතලයට නම් අත තියන්න එපා. ඔය ඊතලය ඔහේ ගලවනවා නම් ඕක ගලවන්න පෙර මට කියන්න ඕන ඔය ඊතලය හදපු කම්මල මොකක්ද, ඔය ඊතලය හදලා තියෙන ලෝහය මොකක්ද, ඊතලය අග අමුණලා තියෙන්නෙ මොන කුරුල්ලාගේ පිහාටු ද? ඔය ඊතලය විදපු පුද්ගලයා උස එකෙක්ද, කොට එකෙක්ද? ඒ පුද්ගලයා කළුද සුදු ද? ඔය විස්තර ටික මට කියන්නේ නැතිව ඊතලය නම් අල්ලන්න එපා. ඔහොම කිව්වා වෙදාට. එතකොට බුදුරජාණන් වහන්සේ අහනවා ඒ ඊතල පහර කාපු පුද්ගලයා සෙවිය යුත්තක්ද හොයන්නෙ නොසෙවිය යුත්තක්ද? නොසෙවිය යුත්තක් ඒ හොයන්නෙ. ඊතල පහර කාපු  පුද්ගලයා හොයන්ට ඕන සුවපත් භාවයයි. සුවපත් භාවය හොයනවා මිසක් විදපු එකා හෙව්වා කියලා කම්මල හෙව්වා කියලා ඒකෙ තියෙන කුරුළු පිහාට්ට මොකක්ද කියලා හෙව්වා කියලා ඔහුට සැලසෙන යහපතක් නෑ. යහපත හඳුනගන්නවා කියන එක මේ ලෝකෙ ඔන්න ඔය වගේ. මනුස්සයො බොහෝ දෙනෙක්, මේ ලෝකෙ බොහෝ දෙනෙක් කරන්නෙ මේ ලෝකෙ කම්මල හොයන එක. බොහෝ දෙනෙක් හොයන්නෙ විදපු එකා හොයන එක. බොහෝ දෙනෙකුගේ ජීවිතේ එහෙමයි. සැනසිල්ල හොයන්න ඉතාම සුළු පිරිසයි. බුදුරජාණන් වහන්සේ ඒ නිසා පින්වතුනි මේ ලෝකෙ හැම එකකටම උත්තර දුන් නෑ. භාග්‍යවතුන් වහන්සේ සියලු දුකින් නිදහස් වීම පිණිස පවතින දේ ලෝකෙට දුන්නා. ඒ තමයි චතුරාර්ය සත්‍යය. චතුරාර්ය සත්‍යය මේ ලෝකයේ භාග්‍යවතුන් වහන්සේ යළි යළිත්, යළි යළිත් ඉස්මතු කර කර නොයෙක් ආකාරයෙන් දේශනා කලා. ඒකට හේතුව, චතුරාර්ය සත්‍යය අවබෝධයට පත්වුනොත් එහෙම ඒ පත්වෙච්චි කෙනාට හැම අර්බුදයකින්ම, හැම ගැටයකින්ම, හැම පටලැවිල්ලකින්ම නිදහස් වෙන්න ලැබෙනවානෙ. ඒ කෙනා නිදහස්. ඊටපස්සෙ අර ප්‍රශ්න වලට ලෝකයේ තියෙන නොයෙක් මතිමතාන්තර වලට උත්තර ඕනම නෑ. ඒ කෙනා උත්තරය ලබාගත්තා. බොහෝ දෙනෙකුගේ ජීවිත අර විදියට අසරණ භාවයට පත්වෙද්දි බුදු කෙනෙකුගේ ධර්මයට හිත පහදවගත්තු අය විතරක් සුවය සළසාගත්තා හරියට ඊතලය මොකා විද්දත්, ඊතලය මොන කම්මලේ හැදුවත්, ඊතලය මොන කුරුල්ලාගේ පිහාටු වලින් අමුණලා තිබ්බත්, ඊතලය ඉවත් කරලා විස දුරු කලා

නම් සැනසෙනවා. අන්න ඒ වගේ තමයි මේ සාංසාරික දුකේ පටලැවිලා ඉන්න එකෙන් නිදහස් වුනේ, චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගෙන බුදුරජාණන් වහන්සේ ලෝකයට කියලා දුන්නෙ ඒ චතුරාර්ය සත්‍යය. දුකත් දුකේ හටගැනීමත්, දුකේ නිරුද්ධ කිරීමත්, දුක නිරුද්ධ කරන මාර්ගයත්, සත්‍යාපහං වචනං සුත්වා විහරිං සාසනේ රතා කිස්සො විජ්ජා අනුප්පත්තා තතං බුද්ධස්ස සාසනං - උන්වහන්සේගේ උතුම් වචනය අසා දැනගෙනයි බුදුසසුනට ඇලී වාසය කලේ. ඉතින් මාත් ත්‍රිවිද්‍යාව ලබාගත්තා. බුදුසසුන මං සම්පූර්ණ කරගත්තා. හැමදෙයක් ගැනම තිබුනු ආසාව නැති කරලා දැම්මා. මෝහාන්ධකාරය බිඳලා දැම්මා. මාරය ඔය විදියටයි මේ ගැන ඔහේ දැනගන්නට ඕන. මේ කාරණයේදී නැසුනේ ඔහේ කිව්වා. මේ කතාවක් පටලවන්න ඇවිල්ලා ශ්‍රමණියක් වෙනවාට වඩා තාපසියක් වෙන්න කැමැති නැද්ද කියලා අහන්න ඇවිල්ලා ඔහේට බැරිවුනා මාව පටලවන්න, නැසුනේ ඔහේ කිව්වා. ඇයි හේතුව? සියලු පටලැවිලිවලින් සියලු අර්බුද වලින් සියලු ගැට වලින් ඒ උත්තමාවිය නිදහස්, මාරය, ඔය කාරණයේදී ඔහේ නැසුනා කිව්වා. එතකොට මාරයා කියනවා කින්නු තං භික්ඛුනී න රෝචෙසීති - ඒයි භික්ෂුණිය ඔයා අකැමැති මොනවාටද, ජාතිං ක්වාහං ආවසෝ නරෝචෙමීති - ආයුෂ්මත මං අකැමැති ඉපදීමටයි. මං කැමැති නැත්තෙ උපදින්ටයි. මාරයා එතකොට ඇහුවා කින්නු ජාතිං නරෝ රෝචේසී ජාතො කාමානි භුඤ්ජති - ඇත්තටම ඇයි භික්ෂුණිය ඔයා ඉපදෙන්න කැමැති නැත්තෙ. ඉපදුනාම නොවැ කම්සැප විඳින්න පුලුවන් වෙන්නෙ. ඇයි මේ ඉපදීමට අකැමැති. ඉපදුනාම නොවැ මේ හැමදේම තියෙන්නෙ. උපන්නාම කම්සැප තියෙනවා. සැනසිල්ලේ ඉන්න පුලුවන්. ආදරය කරන අය හමුවෙනවා. මේ ඔක්කොම ඉපදුනාමනෙ. ඒයි භික්ෂුණී ඉපදීමට ආසා කරන්න එපාය කියලා කවුද ඔයාට ඉගැන්නුවෙ. අන්න එහෙම කිව්වා. එතකොට හරිම ලස්සනයි චාලා භික්ෂුණිය මේ ගැන වදාරන ධර්මය. ජාතස්ස මරණං හෝති ජාතො දුක්කානි පුස්සති බන්ධං වදං පරික්ඛේසං තස්මා ජාතිං න රෝචයේ - ඉපදිච්චි කෙනාට තමයි මරණය තියෙන්නෙ. ලැබෙන්නේ දුකමයි. වධ බන්ධන කරදර කම්කටොළු මේ ඔක්කොම ලැබෙනවා. ඒ හින්දා මං ඉපදීමට කැමැති නෑ. බලන්න කොච්චර අර්ථවත්ද ඒ වචන? ඉපදුනාම තමයි උපන්න තැනැත්තාට දායාද විදියට දැවැද්ද විදියට උරුමය විදියට ධර්මතා විදියට ලැබෙනවා මරණය. උපන්නා නම් මැරෙනවාමයි. නහි සෝ උපක්කමො අත්ථි යේන ජාතා නව්රෙ - උපන්නා නම් මේ ලෝකයේ නොමැරී සිටින්න පිළිවෙලක් නැත. ජලම්පි පත්වා මරණං - නාකි

වී මැරී යන්නේය. ඒවං ධම්මාහි පාණිනො - ඒ මේ සත්වයාගේ ධර්මතාවයයි. උපන්න සත්වයා මැරෙන්නේමය. ඔහු මොහොතක් මොහොතක් පාසා මරණය කරාම ඇදෙමින් සිටින්නේය. හිටගෙන සිටියත් මරණයටම ඇදෙමින් සිටින්නේය. ඇවිදිමින් සිටියත් මරණයටම ඇදෙමින් සිටින්නේය. සැතපී සිටියත් මරණයටම ඇදෙමින් සිටින්නේය. ඔහු මොන දේ කරමින් හිටියත් මරණයට ඇදෙමින් සිටින්නේය. උපන්නාම තමයි මරණය තියෙන්නෙ. උපදින කෙනාට මරණය ඇත. උපදින කෙනාට නාකි වීම ඇත. උපදින කෙනාට නාකි වෙද්දී හටගන්න බලවත් වූ කායික වේදනාවෝ විඳවන්න සිදුවේ. උපදින කෙනාට ප්‍රියයෝ වෙන්වීමේ වේදනාව විඳවන්න සිදුවේ. උපදින කෙනාට අප්‍රිය අමනාප දේවල් අප්‍රිය අමනාප පුද්ගලයො ඇසුරු කරන්න ඒ ඇසුරු කිරීමේ දුක විඳවන්න සිදුවේ. උපදින කෙනාට නොයෙක් ලෙඩ රෝග, වසංගත රෝග මේ හැම අර්බුදයකම පටලැවෙන්න සිද්ධ වෙනවා. ඉපදිච්ච කෙනාට තමයි කියනවා වදබන්ධන. අන්තවාදීන්ගේ වද බන්ධන, ත්‍රස්තවාදීන්ගේ වද බන්ධන, නොයෙක් වද බන්ධන, ඉපදිච්චි කෙනාටමයි කරදර කම්කටොළු. මනුස්සයන්ගෙන් කරදර කම්කටොළු අමනුස්සයන්ගෙන් කරදර කම්කටොළු, කර්ම විපාක කියලා කරදර කම්කටොළු හැම එකක්ම උපන්නාමයි. ඉපදීම නිසාමයි මේ ඔක්කොම තියෙන්නෙ. ඒ ඔක්කොම ලැබෙන්නෙ ඉපදීම හින්දා. ඒ නිසා මං ඉපදීමකට නම් කැමැති නෑ. අන්න ඒ හින්දා තමයි කිව්වා ඉපදීම කියන එකට අකැමැති. ඇත්තෙන්ම පින්වතුනි මේ ලෝකයේ අනිත් දර්ශන ගත්තොත් අනිත් හැම දර්ශනයකම. නොයෙක් නොයෙක් ආගම් තියෙනවානෙ. ඒ ආගම් ගැන හොඳට අපි කල්පනා කරලා බැලුවොත් එහෙම ඒ ආගම් හැම එකකම යළි උපදින්න යළි තැනකට යන්න යළි උපතක් කරා යන්න කියලා දෙනවා මිසක් උපතින් නිදහස් වීමක් ගැන කතාවක් නෑ. සර්ව බලධාරී කෙනෙක් ළඟට යන්න, දෙවියන් වහන්සේ ළඟට යන්න, වෙන බලසම්පන්න දෙවි කෙනෙක් ගාවට යන්න මේ වගේ එක්ක කියලා දෙනවා මිසක් උපතින් නිදහස් වෙන විදියක් ගැන, ඒවගේ කතාවක් නෑ. ඇයි එහෙම කතාවක් නැත්තෙ? අවබෝධයක් නෑ. ඉපදිච්චි ජීවිතේ තියෙන කම්කටොළු ගැන අවබෝධයක් තියෙන කෙනා ඒකට නිදහසක් හොයනවා. අපගේ ශාස්තෲන් වහන්සේ මහාබෝධිසත්වයො කාලෙ මේ ජීවිතයේ ඇත්ත දැක්කා. උපන්න කෙනා නාකි වෙන හැටි දැක්කා. උපන්න අය ලෙඩවෙන හැටි දැක්කා. උපන්න අයගේ මරණය දැක්කා. මේ ජරා ව්‍යාධි මරණ වලට විසඳුමක් උන්වහන්සේ හෙව්වා. ඒ හෙව්ව නිසා උන්වහන්සේට අමරණීය නිවන හම්බුනා. ජරාවට පත්වීමක් නැති අජර වූ නිවන හම්බුනා.

ලෙඩවීමක් නැති අව්‍යාධි වූ නිවන හමුවුනා. ශෝක වැළපීම් මොකුත් නැති අසෝක වූ නිවන හම්බුනා. අපරිදේව වූ නිවන හම්බුනා. දුක් දොම්නස් කිසිවක් නැති අදුක්ඛ වූ නිවන හම්බුනා. අදෝමනස්ස වූ නිවන හම්බුනා. ඒ නිවනේ ශාන්තිය තමයි ශාස්තෲන් වහන්සේ අපට බෙදලා දුන්නෙ. ඉතින් මේ අරහත් උත්තමාවියත් ඒ ගැන කියනවා මෙහෙම. බුද්ධො ධම්ම මදේසේසි ජාතියා සමතික්ඛමා සබ්බ දුක්ඛ පහාණාය යෝ මං සච්චෙ නිවේසයෙ - ඉපදීම ඉක්මවන ධර්මය බුදුසමිදුන් තමයි අපිට කියලා දුන්නෙ. සියලු දුක් නැති කරවන ඒ ආර්ය සත්‍යය තුළ මාව පිහිටෙව්වේ උන්වහන්සෙ තමයි. ඉපදීම ඉක්මවන ධර්මය, බුදුරජාණන් වහන්සේගේ ධර්මයට කියන නමක්. ජාතියා සමතික්ඛමා - ඉපදීම ඉක්මවා යන ධර්මය, ඉපදීම ඉක්මවා යාමෙන් තමයි සැනසිල්ල තියෙන්නෙ. ගෞතම ශාසනයේ එක භික්ෂුවක් පැවිදි වුනා. පැවිදි වෙලා ධර්මය ඉගෙන ගෙන ඉපදීම ඉක්මවා යන්න ආස කලා. වීර්යයෙන් භාවනා කලා. වීර්යයෙන් භාවනා කර කර ඉද්දි උන්වහන්සේ කාලක්‍රියා කලා, හදිසියේ ආපු ශාරීරික රෝගයක් නිසා. ඒ රෝගයෙන් කළුරිය කරලා උන්වහන්සේ පින් රැස් කරගෙන හිටපු නිසා උපන්නෙ තව්තිසාවෙ. තව්තිසාවෙ උපදිනකොට හැබැයි දේවපුත්‍රයෙක්. දැන් ශ්‍රමණ ජවිතය නෑ, පැවිදි ජීවිතය නෑ, හැබැයි පැවිද්දෙක් විදියට වීර්යයෙන් ධර්මයේ හැසිරිච්චි කෙනානෙ, අර දිව්‍ය ලෝකෙ හිත පිහිටන් නෑ. දිව්‍ය ලෝකෙ ගියා විතරයි පරිවාර සේවිකාවො විදියට අප්සරාවියො පන්සීයක්. මේ අප්සරාවියො පන්සීය නොයෙක් වචන කියනවා, අනේ දේවපුත්‍රය මෙහෙට එන්න, මෙතනින් ඉඳගන්න, අනේ දේවපුත්‍රය මෙහෙම කරන්න, අනේ මේ මල ඔයාට නොයෙක් කතා. වදයක් වුනා මේ දේව පුත්‍රයාට. මේ වදය ඉවසන්න බැරිව මේ දේවපුත්‍රයා සරණක් පිහිටක් රැකවරණයක් හොයනවා. ඒ සරණ පිහිට රැකවරණය හොයනකොට ඒක හොයාගෙන බුදුරජාණන් වහන්සේ කරා ආවා. භාග්‍යවතුන් වහන්සේ කරා පැමිණියාට පස්සෙ බුදුරජාණන් වහන්සේ ඒ දේවපුත්‍රයාට දේශනා කලේ නිවන ගැනමයි. නිවන ගැනමයි දේශනා කලේ. නිවන ගැන දේශනා කරනකොට ඒ මහා නුවණැති දේවපුත්‍රයා ඒ දේශනාව අහගෙන ඉඳලා ධර්මය අවබෝධ කලා. ධර්මය අවබෝධ කරලා සෝතාපන්න ශ්‍රාවකයෙක් විදියට යළි දෙව්ලොවට ගියා. මේ සෝතාපන්න ඵලය සාක්ෂාත් කලා කියන්නෙ රැකවරණය හරි, ඒකාන්තයෙන් භව හතක් ඇතුලත නිවන් දකින කෙනෙක් බවට පත්වෙනවා. දැන් ඔය වගේම දෙව්ලොව සිද්ධියක් වුනා, සුබ්‍රහ්ම දෙවියාගේ සිද්ධිය. සුබ්‍රහ්ම කියලා කියන්නෙ පින්වතුනේ දෙව්ලොව ඉපදිලා ප්‍රමාද වෙලා හිටපු දෙවියෙක්.

දෙව්ලොව ඉපදිලා වුනත් දැන් දෙව්ලොව කියලා කියන්නෙ සුගතියනෙ, මේ මනුස්ස ලෝකෙට වඩා ගොඩාක් සැප තියෙන තැන. හැබැයි එතන ඉපදිලා ධර්මය පැත්තට අවධානය යොමු නොකර කාමය පැත්තට අවධානය යොමු කලොත් එයා ප්‍රමාද වෙනවා. දැන් ඒක ගැන සමහර කෙනෙක් කියනවානෙ ඒ නිසා දෙව්ලොව උපදින්න හොඳ නෑ, දෙව්ලොව ඉපදුනොත් සසර දික් වෙනවා. මේ කතා. ඒක නුවණැති කතාවක් නෙවෙයි. ඒක මෙහෙමයි තේරුම් ගත යුත්තෙ. මනුස්ස ලෝකෙට අපි ඇවිල්ලා ඉන්නවා. මේ මනුස්ස ලෝකෙය ඇතුලේ වැඩිපුර පිරිසක් සත්පුරුෂ ඇසුරේද ඉන්නෙ, අසත්පුරුෂ ඇසුරේ. වැඩිපුර ඉන්නෙ අසත්පුරුෂ ඇසුරක. සුළු පිරිසක් සත්පුරුෂ ඇසුරේ ඉන්නවා. සත්පුරුෂ ඇසුරේ ඉන්න කෙනා මේ මනුස්ස ලෝකෙ කාමය තියෙද්දීම පින් කරනවා. මේ මනුස්ස ලෝකෙ කාමය තියෙද්දීම ධර්මයේ හැසිරෙනවා. මේ මනුස්ස ලෝකෙ එක එක දේවල් කරන්න හැකියාව තියෙද්දීම එයා යහපතේ හැසිරෙනවා. එයාට සත්පුරුෂ ඇසුර ලැබිච්ච නිසා. එහෙනම් මනුස්ස ලෝකෙ ධර්මයේ හැසිරෙන්න හොඳට පසුබිම තියෙද්දිත් කොටසක් ධර්මයේ හැසිරෙනවා, කොටසක් මුලා වෙනවා. දෙව්ලොවත් එහෙමයි. දෙව්ලොව ගිහිල්ලත්, දෙව්ලොවදී සත්පුරුෂ ඇසුර ලබාගත්තේ නැත්නම්, දෙව්ලොවදී යහපතේ හැසිරෙන ධර්මය ඉගෙන ගන්න මහන්සි ගත්තේ නැත්නම්, දෙව්ලොවදී පින් කරන්න ඕන කියලා හිතුවෙ නැත්නම් දෙව්ලොවත් ප්‍රමාද වෙනවා තමයි. අන්න එහෙම ප්‍රමාද වෙලා හිටපු ජාතියෙ එක්කෙනෙක් සුබ්‍රහ්ම. සුබ්‍රහ්ම දෙවියා තමන්ගේ දිව්‍ය අප්සරාවියොත් එක්ක නන්දන වනයට ගියා කියනවා සන්තෝෂ වෙන්න. නන්දන වනයට ගිහිල්ලා මේ අප්සරාවියොත් එක්ක බොහෝම සතුටින් එහෙට මෙහෙට දුව පැන පැන සතුටු වෙමින් ඉද්දි එකපාර එකසැණෙකින් අප්සරාවියෝ ටික නැතිව ගියා. අප්සරාවියො නැතිව ගියාම මෙයාට ඒක එකපාරම දරාගන්න බැරිව ගියා. දැන් මේ දේවපුත්‍රයා කලබලෙන් මුළු නන්දන වනයම පීරලා හෙව්වා මගේ අප්සරාවියො, මගේ නැගණිවරු කෝ. එක්කෙනෙක්වත් නෑ. එතකොට මේ දේවපුත්‍රයාට හරි සංවේගයි. දේවපුත්‍රයා බැලුවා තමන්ගේ නුවණින් මේ නැගණිවරු එහෙම නැත්නම් තමන් එක්ක හිටපු අප්සරාවියො කොහෙද ගියේ. ඔහු බලාගෙන බලාගෙන යනවා, චාතුම්මහාරාජික දෙව්ලොව, එහෙ නෑ. මනුස්ස ලෝකෙ මෙහෙ නෑ. ප්‍රේත ලෝකෙ එහෙත් නෑ. තිරිසන් ලෝකෙ, එහෙත් නෑ. අවසානෙට බැලුවා කියනවා නිරයේ, නිරයේ බලනකොට අර අප්සරාවියො ටික මීට සුලු මොහොතකට පෙර නන්දන වනයේ දුව පැන සතුටු වෙමින් හිටපු අප්සරාවියො

ටික මොකක්දෝ කරුමයක් ඉස්මතු වෙලා දෙව්ලොවින් චුතවෙච්චි ගමන් නිරයේ. දෙව්ලොවින් චුතවෙච්චි ගමන් නිරයේ ඉපදිලා. බලන්න පින්වතුනි, සසරක බිහිසුණු බව. මේ දිව්‍ය ලෝකෙ දිව්‍ය සුවඳත් එක්ක ඉන්නවා. සැණෙකින් නිරයේ. දිව්‍ය ලෝකයේ දිව්‍ය සළුපිලිත් එක්ක ඉන්නවා, ඊළඟ ක්ෂණයේ ගිනිදැල් අතරේ. හිතාගන්න බෑ සසරේ බිහිසුණු බව නම්. දෙව්ලොව ඉන්නකොට පරසතු මල් කඩ කඩා, ඒ අප්සරාවියො මොහොතකට වත් හිතන්න නැතිව ඇති මෙතනින් චුත වෙච්චි ගමන් ගිනිදැල් අතරට වැටෙන්නෙ කියලා. ගිනිදැල් අතරේ දැවෙමින් ඉන්නවා. මේ සුබ්‍රහ්ම දෙවියන්ට මේ ඇයන්ව දැක්ක ගමන් නිකං පපුව හෝස් ගාලා ගියා. සුබ්‍රහ්ම දෙවියා ඒ වෙලාවේ බලනවා තමන්ට තව කොච්චර ඉන්න පුලුවන්ද, දෙව්ලොව ආයුෂ කොච්චරද. ඔය දෙවියන්ට එහෙම නුවණකුත් තිබිලා, දෙවියාට එහෙම නුවණකුත් තිබිලා, මේකේ තව කොච්චරකල් ඉන්න පුලුවන්ද කියලා බලාගන්න එකක්. ඒ නුවණින් මේ දේවපුත්‍රයා බලාගන්නකොට පේනවා තව ඉතාම සුළු වෙලාවයි. දෙව්ලොවින් ඉතාම සුළු වෙලාවයි, මනුස්ස ලෝකෙත් එක්ක ගත්තොත් දවස් හතයි, දවස් හතකින් තමනුත් චුත වෙනවා. තමන්ටත් යන්න වෙන්නෙ දුක්ඛිත තැනකට. එතකොට මේ දේවපුත්‍රයා බුදුරජාණන් වහන්සේව හොයාගෙන යනවා. භාග්‍යවතුන් වහන්සේ හොයාගෙන ගිහිල්ලා භාග්‍යවතුන් වහන්සේ ළඟ කිව්වා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, මට හටගත්ත දුක් තිබේ, මට හටගන්නද දුක් තිබේ. ස්වාමීනී දුක් පීඩා සන්තාප තැවිලි නැති තැනක් අනේ එහෙම නැති තැනක් මට කියන්න කිව්වා, මේ දෙවිවරු. දෙවිවරු දෙව්ලොවින් ඇවිල්ලා එහෙම කිව්වා අපි මේ සොච්චම් කාමයකට අහුවෙලා ප්‍රමාද වෙනවා. දෙව්ලොව දිව්‍ය කාමය තිබ්බ දෙවිවරු ඇවිල්ලා කිව්වා ස්වාමීනී මේ ප්‍රශ්න නැති තැනක්, ඇයි දෙව්ලොවත් ප්‍රශ්න. දෙව්ලොවේත් ප්‍රශ්න, කාමයේ ප්‍රශ්න දෙව්ලොවත් තියෙනවා. ප්‍රියයන්ගෙන් වෙන්වීමේ ප්‍රශ්න දෙව්ලොවත් තියෙනවා. අප්‍රිය දේ එක්ක එක්වීමේ ප්‍රශ්නය දෙව්ලොවත් තියෙනවා. සෝක වැළපීම් දුක්දොම්නස් දෙව්ලොවත් තියෙනවා. ඇයි දෙව්ලොවත් උපතක්. උපදින තැන ප්‍රශ්න ඔක්කොම ටික තියෙනවා. එතකොට මේ දේවපුත්‍රයා මෙහෙම කියනකොට භාග්‍යවතුන් වහන්සේ වදාළා, සුබ්‍රහ්ම දෙවිය නාඤ්ඤත්‍ර බොජ්ඣංගා තපසා - අවබෝධයට උවමනා කරන බොජ්ඣංග ධර්ම වඩන්නේ නැතිව අකුසල් දුරු කරන්නත්, කුසල් වඩන්නත්, වීර්යය දියුණු කරන්නේ නැතිව, නාඤ්ඤත්‍ර ඉන්ද්‍රිය සංවරා - ඇස කණ නාසය දිව කය මනස කියන මේ ඉන්ද්‍රියො මැනැවින් සංවර කරන්නෙ නැතිව, නාඤ්ඤත්‍ර සබ්බනිස්සග්ගා - මේ

සියලු දුක් මේ සියලු කෙලෙස් වලින් නිදහස් වෙන්නේ නැතිව, සොත්ථිං පස්සානුපාණිනා, සත්වයාට වෙන සැපක් නම් නෑ. එහෙනම් සැප කොතනද තියෙන්නෙ? සැප තියෙන්නෙ දුකින් නිදහස් වූ නිවනේ. දුකින් නිදහස් වෙන්නෙ චතුරාර්ය සත්‍යය අවබෝධ කරගැනීමෙන්. ඒ නිසා මහා කාරුණික බුදුවරු ලෝකයට චතුරාර්ය සත්‍යය ධර්මයම දේශනා කරනවා. චතුරාර්ය සත්‍යය ධර්මයම දේශනා කරනවා. ඒ චතුරාර්ය සත්‍යය ධර්මය තමයි ඉපදීම ඉක්මවන ධර්මය. යේච රූපො ප ගාසත්තා යේ ච ආරුප්ප ඨායිනො නිරෝධං අප්පජානංතා ආගන්තාරො පුනබ්භවං - රූප ලෝකෙ ඉපදුනු සත්වයෝත් ඉන්නවා. අරූප ලෝකයේ ඉපදුනු සත්වයෝත් ඉන්නවා, ඔය කාටත් නිරෝධ සත්‍යය දැන නොගත්තොත් ආයෙ ආයෙමත් භවයට එන්න සිද්ධ වෙනවා. මොන ලෝකෙක උපන්නත් නිරෝධ සත්‍යය දැනගත්තෙ නැත්නම්, නිරෝධ සත්‍යය කියලා කිව්වෙ මොකක්ද පින්වතුනි, නිවන. නිරෝධ සත්‍යය තමයි සාක්ෂාත් කල යුතු දේ. නිරෝධ සත්‍යය කියලා කිව්වෙ අමෘත නිවන, දුක් සංසිඳිච්චි තැන. දුක් කිසිවක් නැති නිවන සාක්ෂාත් කලේ නැත්නම් ඒ ආර්ය සත්‍යය අවබෝධ කලේ නැත්නම් ඔය කිසි කෙනෙකුට සැනසිල්ලක් නෑ කියනවා, ආයෙ ආයෙමත් භවයටම එන්න සිද්ධ වෙනවා. ඒ නිරෝධ සත්‍යය ගැන ලෝකයට දේශනා කරන්නෙ බුදුවරුනෙ. බුදුරජාණන් වහන්සේලා තමයි චතුරාර්ය සත්‍යම ලෝකයට දේශනා කරන්නෙ. නිරෝධ සත්‍යය සාක්ෂාත් කරන්න කැමැති කෙනා දුක්ඛ නිරෝධ ගාමණී පටිපදාව අනුගමනය කරන්න ඕන. ඒකත් ආර්ය සත්‍යයක්. ආර්ය සත්‍යය කියලා කියන්නෙ මේ ලෝකයේ කවදාවත් වෙනස් වෙන් නැති සත්‍යය, ඒ හින්දා තමයි ඒකට කියන්නෙ ආර්ය. කිසි කලෙකත් වෙනස් වෙන් නැති උතුම් සත්‍යය. ඒ සත්‍යයෙන් පරම ශාන්තිය වන නිවන සාක්ෂාත් කරන්න පුලුවන්. මේ ලෝකයේ වෙන සත්‍යයකින්, වෙන ඇත්තකින් ඒ දේ කරන්න බෑ. ඒ නිසා මේ නිරෝධ සත්‍යය ගැන දැනගත්ත කෙනා නිරෝධ ගාමිණී පටිපදාව අනුගමනය කරනවා. අපි ගත්තොත් මේ ලෝකයේ සියලු රහතන් වහන්සේලා බිහිවුනේ දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාව නිසා. සියලු රහත් තෙරණිවරු බිහි වුනේ දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාව නිසා. සියලු මාර්ගඵල ලාභීන් බිහිවුනේ දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාව නිසා. දුක් නැසුවා නම් යමෙක් දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාවෙන්මයි. ඒ කුමක්ද, අයමෙව අරියො අට්ඨංගිකො මග්ගො - ඒ වනාහි ආර්ය අෂ්ටාංගික මාර්ගයයි. එනම් සම්මා දිට්ඨිය, සම්මා සංකල්පය, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි. මේ ආර්ය මාර්ගයේ මේ

වැඩපිළිවෙල. බුදුරජාණන් වහන්සේ දවසක් සැවැත් නුවර දෙව්රම් වෙහෙරේ වැඩ ඉන්නකොට භික්ෂූන් වහන්සේලා ඒ කාලයේ වස් වැසීම පිණිස භික්ෂූන් සැවැත් නුවර ජේතවනාරාමයට වැඩම කරලා හිටියෙ. නොයෙක් ජනපද වල චාරිකාවේ වැඩපු භික්ෂූන්. ඒ භික්ෂූන් වහන්සේලා වැඩම කරලා දැන් එකට එකතු වුනාට පස්සෙ වැඩකට නැති කතාවක් පටන් ගෙන. බුදුරජාණන් වහන්සේට මේ කතාව ඇහෙනවා. ඒ භික්ෂූන් කියනවා ආයුෂ්මතුනි රජගහනුවර නොවැ පාරවල් තියෙන්නෙ, හරී ෂෝක් පාරවල් ටික, රජ්ජුරුවො හොඳට ඒ පාරවල් ටික කරවලා තියෙනවා. එතකොට තව භික්ෂූන් පිරිසක් කියනවා, ඉතින් අපි ගියපු පැත්තෙත් එහෙමයි. ඒ පැත්තෙත් ආණ්ඩුවෙන් හොඳට පාරවල් හදනවා. ලස්සනට පාරවල් ටික කරවලා තියෙනවා. එතකොට තව පිරිසක් කියනවා හාපෝ අපි ගියපු පැත්ත නම් ගන්න දෙයක් නෑ. හරි අමාරුයි පිණ්ඩපාතෙ කරගනිද්දිත්, එහෙ පාරවල් හරිම කර්කශයි. එහෙ පාරවල් තාම හදලා නෑනෙ. දැන් මෙහෙම එක එක්කෙනා එක එක පාරවල් තොටවල් ගැන කතාව. බුදුරජාණන් වහන්සේ ඔය වෙලාවේ ඔතෙන්ට වැඩම කලා. වැඩම කරනකොට භික්ෂූන් නිහඬ වුනා. අහනවා මහණෙනි, ඔබලා මොනවා ගැනද කතා වුනේ, එතකොට භික්ෂූන් ඇත්ත කිව්වා. අනේ ස්වාමීනී අර්ථවත් දෙයක් නෙවෙයි. අපි මේ පාරවල් ගැන කතා වුනා. බුදුරජාණන් වහන්සේ වදාළා මහණෙනි බුදු සසුනේ පැවිදි වෙච්චි ඇයො විදියට ඔබට ඔය නිකං පාරවල් ගැන කතා කර කර ඉන්න එක අපරාදි. ඒක තේරුමක් නෑ, ඔබ කතා කරනවා නම් කතා කරන්න නිවනට යන පාර ගැන. ඒ නිවනට යන පාර මොකක්ද, ආර්ය අෂ්ටාංගික මාර්ගයයි, ඒසො මග්ගො නත්ථඤ්ඤො දස්සනස්ස විසුද්ධියා, එකම එක පාරයි තියෙන්නෙ වෙන පාරවල් ගොඩක් නෑ, ඒ පාරෙන්මයි නිවන කරා යන්න තියෙන්නෙ. එහෙමයි බුදුරජාණන් වහන්සේ දේශනා කලේ, ඉතින් අපි මේ උතුම් දේශනා ඇසුරින් යම් ඉගෙන ගන්නවාද රහතන් වහන්සේලා ගැන, රහත් තෙරණිවරු ගැන ඒ සියලු රහතුන්, ඒ සියලු රහත් තෙරණිවරුන් නිවන කරා ගියේ පින්වතුනි ඒ උතුම් ආර්ය අෂ්ටාංගික මාර්ගයේමයි. ඉතින් චාලා මහරහත් තෙරණින් වහන්සේ එහෙම පිළිතුරු දෙනකොට මාරයාට ගොඩාක් දුක හිතුනා. මාරයා කල්පනා කලා අයියෝ චාලා භික්ෂුණියත් මාව දැනගත්තා නොවැ. මං මේ වෙස්වලාගෙන ඇවිල්ලත් චාලා භික්ෂුණියට මාව අහුවුනා නොවැ කියලු දුක් වුනා, දොම්නස් වුනා, එතනම නොසතුටට පත්වෙලා තත්‍රේව අන්තරධායි - අතුරුදහන් වුනා. චාලා භික්ෂුණිය මේ බුද්ධ ශාසනයේ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවිකා භාවයට පත්වෙලා අමා

නිවනේ සැනසිච්චි උත්තමාවියක්. මහා පින් ඇති අපගේ ධර්මසේනාධිපතීන් වහන්සේගේ සහෝදරිය වෙච්චි කෙනා. ඒ චාලා භික්ෂුණිය මේ සම්බුදු සසුනේ අමෘත නිවනේ සැනසුනා. ඉතින් ඒ චාලා භික්ෂුණියත් නමස්කාර කරමින් අපි අධිෂ්ටාන කරගනිමු අපිටත් මේ ගෞතම ශාසනය තුළ ඒ රහතන් වහන්සේලා සැනසුනු රහත් තෙරණින් වහන්සේලා සැනසුනු අමෘත නිවනේ සැනසෙන්න අවකාශ ලැබෙත්වා. අපිටත් සොඳුරු ආර්ය අෂ්ටාංගික මාර්ගය අපේ ජීවිතේ තුළ දියුණු කරගන්න ලැබෙත්වා. මේ ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න අප හැමදෙනාට වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අනුමෝදන් කරමු පින්වතුනේ අපි සියලු දෙවිවරුන්ට. සක්දෙවිඳුන්ට, සතර වරම් දෙවිවරුන්ට, සෙන්පති දෙවිවරුන්ට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා. අල්පේශාක්‍ය, මහේශාක්‍ය, ලෝක පාලක සියලු දෙවි දේවතාවුන් වහන්සේලා පින් අනුමෝදන් වෙත්වා. ඔබ අප හැමදෙනාටම ඒ ඉෂ්ටකාමී හිතකාමී සියලු දෙවිවරුත් පින් අනුමෝදන් වෙත්වා. ලංකාභූමිය සුරකින ශ්‍රීමත් සුමන සමන් දෙවිරජුන් ප්‍රධාන සියලු දෙවියෝ සාදරයෙන් සතුටු සිතින් පහන් සිතින් මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන්වූ දෙවියෝ දිව්‍ය සැපයෙන් දිව්‍ය ආශ්චර්‍යයෙන් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ ආශිර්වාදය රැකවරණය උපකාරය අප හැමදෙනා හටම දෙවියෝ නොඅඩුවම සළසාදෙත්වා. දෙවියෝද සංසාර දුකින් අතමිදේවා සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පූණ්‍ය ධර්මයන් අපගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට සියලුම පින් අනුමෝදන්ව නිදුක් නිරෝගී සුව සැලසේවා. දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ගුරුදේවයන් වහන්සේට මේ ගෞතම ශාසනය තුළම උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරගන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද දවසේ ධර්ම දානමය පින්කම සිදු කරන පින්වතුන්ලා ප්‍රධාන අරමුණ වශයෙන් බලාපොරොත්තු වෙන ආකාරයෙන් පින්වත් ඩී.ඒ. රූපසිරි පියාණන්ට සහ සිරියලතා පෙරේරා මෑණියන්ට මේ සියලූම පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදය, උතුම් බුද්ධ රත්නයේ ආශිර්වාදය, ධර්ම රත්නයේ ආශිර්වාදය, සංඝ රත්නයේ ආශිර්වාදය, පින් අනුමෝදන් වෙලා සතුටු වෙන සියලු දෙවි දේවතාවුන් වහන්සේලාගේ ආශිර්වාදය නොඅඩුවම ජීවිතයට සැලසේවා. නිදුක් නිරෝග සුව දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ඒ මෑණියන්ටත් පියාණන්ටත් කිසි කරදරයකින් බාධාවකින් හිරිහැරයකින් පීඩාවකින් තොරව සුවසේ පින්

කරගන්න අවකාශ සැලසෙත්වා. ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්න වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. ධර්ම දානය සිදු කරන පින්වත් ඩී.ඒ.එස්. දර්ශිකා මහත්මියගේ නමින් මියපරලොව යන්න යෙදුනු පින්වත් ඩී.ඒ. මිත්‍රරත්න සීයාට, ආර්. මේරිනෝනා අත්තම්මාට, ඩී.ඒ. කරුණාපාල සීයාට, ජී. සුමනාවතී අත්තම්මාට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. නමින් මියපරලොව ගියා වූ සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට මේ සියලුම පුණ්‍ය ධර්මයෝඅනුමෝදන් වෙත්වා. අනන්ත සසර පුරාවටම තමන්ගේ නමින් මියගියා වූ ඒ සියලු ඥාතීන්ට පින් අනුමෝදන් වෙලා ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයෙන් සැපයටම පත්වෙත්වා. අපගේ ඥාතීන්ට මේ දුක් සහිත සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙන්න අවස්ථාව ලැබෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදනා සිදු කරන්න. රැස් කල සියලු පුණ්‍ය ධර්මයෝ අද ධර්ම දානය සිදු කරන ඒ පින්වතුන්ලා බලාපොරොත්තු වන ආකාරයෙන්ම ධර්ම දානය සිදු කරනු ලබන්නෙ නො.208, දාම්පෙ, මීගොඩ යන ලිපිනයේ පදිංචි පින්වත් ඩී.ඒ. දර්ශිකා මහත්මිය ඇතුළු ඒ පවුලේ හැමදෙනා, ඒ පින්වත් සෑම සියලු දෙනාට, ඥාතී හිතමිත්‍රාදීන් සෑම සියලුදෙනාට මේ සියලු පුණ්‍ය ධර්මයන් අනුමෝදන් වෙත්වා. සියලු දෙනාට නිදුක් නිරෝග සුව සැලසෙත්වා. දීර්ඝායුෂ සම්පත්තිය සැලසෙත්වා. බලාපොරොත්තු වෙන අයුරින් මේ ධර්මදානය නිරතුරුව උතුම් කල්‍යාණමිත්‍ර ඇසුර ලැබීම පිණිසම හේතුවෙත්වා. මේ පුණ්‍ය කර්මය දැක බලා සතුටු වෙන සෑම සියලු දෙනා හට ඔවුන් සියතින් සිදු කලා වූ පුණ්‍ය කර්මයක් ලෙස මේ සියලුම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා කියලා පුණ්‍ය ප්‍රාර්ථනා එකතු කරනවා. ඉතින් ඔබ හැමදෙනාත් මේ ධර්ම දානමය පින සතුටින් අනුමෝදන් වෙන්න, තමන් සියතින් සිදු කරපු පිනක් සේ මේ සියලුම පුණ්‍ය ධර්මයෙන් අනුමෝදන් කරනවා සියලුම දෙනාට. ධර්ම දානය සිදු කලා වූ පින්වත් ඩී.ඒ. දර්ශිකා මහත්මිය ඇතුළු ඒ පින්වත් හැමදෙනාට මේ සියලු පින් අනුමෝදන් වෙලා ඒ පින්වතුන්ලාගේ ජීවිත වල රැකී රක්ෂා ආදී කටයුතු දූදරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදී මේ සියල්ල සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා. ජීවිතයට සියලු යහපත, සියලු අභිවෘද්ධිය උදාවෙත්වා. කල්‍යාණමිත්‍ර ඇසුරේ තවදුරටත් සුවසේ පින් කරගන්න සුවසේ ගුණදහම් දියුණු කරගන්න අවකාශ සැලසෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලා සෑම සියලුදෙනා හටත්, ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන් විදුලියේ සෑම සියලු දෙනාහටත්, සුපින්වත් ඔබ සෑම සියලු දෙනා හටත් පින් අනුමෝදන් වෙලා,

සියලු දෙනාට කිසි කරදරයකින් බාධාවකින් තොරව සුවසේ පින් කරගෙන, සුවසේ දහම් මග දියුණු කරගෙන මේ ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්න වාසනාව ලැබෙන්වා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=U_SqkafseU

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදු සාදු සාදු!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද දවසේ මේ උතුම් ධර්ම දේශනාවට දායකත්වයන් දරනු ලබන්නේ පින්වත් ශිරානි, රමණී, විජය, සුජාතා කියන පින්වතුන්. ලාල් සහ තිලානි යන පින්වතුන්ලා, සරත් සහ දීපා යන දෙපළ, චම්පා සහ කීර්ති යන දෙපළ, මනෝජ් සහ චන්දිමා යන දෙපළ යන මේ සැදැහැවත් පින්වතුන්ලා හැමදෙනා ඒකරාශී වෙලයි අද ධර්ම දාන පින්කම සිද්ධ කරන්නෙ. ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු මේ දේශනා මාලාවේ අද අපි අහන්නෙ උපචාලා නම් වූ අර්හත් තෙරණියගේ ගාථා. අපි ඊයේ දවසේ ශ්‍රවණය කලා චාලා තෙරණිය. චාලා තෙරණිය කියලා කිව්වෙ අපේ සාරිපුත්ත මහරහතන් වහන්සේගේ ගිහිකල සහෝදරියක්. එතකොට උපචාලා කියන්නෙත් සාරිපුත්ත මහරහතන් වහන්සේගේ ගිහිකාලයේ සහෝදරිය. තව සහෝදරියක් සිටියා සීසූපචාලා. මේ තුන්දෙනාම ගෞතම ශාසනයේ පැවිදි වුනා, පැවිද්ද ලබලා උතුම් අර්හත් උත්තමාවියො බවට පත්වුනා. දැන් අද අහන්නෙ එසේ අර්හත්වයට පත්වුනු උපචාලා නම් රහත් උත්තමාවියගේ

ගාථා. ඒ රහත් උත්තමාවියගේ ගාථා ආරම්භ වෙන්නෙ මෙන්න මෙහෙම. සතිමතේ චත්ථුමතේ භික්ඛුනී භාවිතින්ද්‍රියා පඨිවිජ්ජී පදං සන්තං අකාපුරිස සේවිතං - ඒ භික්ෂුණිය හොඳ සිහිය පිහිටුවාගෙන ඉන්නෙ. දහම් ඇස් තියෙනවා. ශ්‍රද්ධා ආදී ඉන්ද්‍රියන් ඒ උත්තමාවී දියුණු කරලයි යන්නෙ. සත්පුරුෂයන්ගේ ආශ්‍රය නිසා ඇත් ශාන්ත නිවන සාක්ෂාත් කලා. උපචාලා අර්හත් උත්තමාවියව හැඳින්වීමේ ගාථාව. ඒ උත්තමාවිය හොඳට සිහිය පිහිටුවාගෙන ඉන්න කෙනෙක්. ධර්මය තුළින් ජීවිතය දිහා බලන නිසා ඇයට කියනවා දහම් ඇස් ඇත්තී, ධර්මය තුළින් තමයි ජීවිතය දෙස බලන්නෙ. දහම් ඇස් තියෙනවා. ශ්‍රද්ධා ආදී ඉන්ද්‍රියන් දියුණු කරගෙන ඉන්නෙ. ඉන්ද්‍රිය ධර්ම පහයි. ශ්‍රද්ධා විරිය, සති, සමාධි, පඤ්ඤා. ඒ ඉන්ද්‍රියන්ගේ දියුණුවත් එක්ක තමයි සම්බුද්ධ ශාසනය තුළ මාර්ග ඵල පසක් කිරීම කියන එක තියෙන්නෙ. ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, පඤ්ඤා කියන ඉන්ද්‍රිය ධර්ම පිහිටන්නෙ මේ බුද්ධ ශාසනයට පැමිණි කෙනාටයි. යමෙක් සද්ධානුසාරී, ධම්මානුසාරී භාවයට පත්වෙනකොට ඉන්ද්‍රිය පිහිටනවා. ඒ ඉන්ද්‍රිය ධර්මයෝ තවදුරටත් දියුණු වෙනකොට සෝතාපන්න වෙනවා. තව දියුණු වෙනකොට සකදාගාමී මාර්ගයට පැමිණි කෙනා වෙනවා. තවත් දියුණු වෙනකොට සකදාගාමී ඵලය සාක්ෂාත් කරනවා. ඉන්ද්‍රිය ධර්ම තව දියුණු කරනකොට අනාගාමී මාර්ගයට පැමිණෙනවා. තවත් ඒ ඉන්ද්‍රිය ධර්ම දියුණු වෙලා යනකොට අනාගාමී ඵලය සාක්ෂාත් කරනවා. තවදුරටත් ඒ ඉන්ද්‍රියෝ දියුණු වෙද්දී රහතන් වහන්සේ නමක් බවට පත්වෙන්න අර්හත් මාර්ගයට පැමිණෙනවා. ඉන්ද්‍රිය ධර්ම සම්පූර්ණයෙන්ම දියුණු වෙන්නේ රහතන් වහන්සේටයි. ඒ රහතන් වහන්සේ ඉන්ද්‍රියන්ගේ පූර්ණත්වයට පත්වුනා. රහත් තෙරණින් වහන්සේලාත් ඉන්ද්‍රියන්ගේ පූර්ණත්වයට පත්වුනා. ඉතින් ඒ නිසයි මෙහි කියන්නෙ ශ්‍රද්ධා ආදී ඉන්ද්‍රියෝ දියුණු කරලයි තියෙන්නෙ. සත්පුරුෂයන්ගේ ආශ්‍රය නිසා ඇත් නිවන සාක්ෂාත් කලා, කුමක් නිසා ද ඇ නිවන සාක්ෂාත් කලේ? සත්පුරුෂ ආශ්‍රය, සත්පුරුෂයන්ගේ ඇසුර. ඉතින් ඒ අර්හත්වයට පත් වූ උපචාලා උත්තමාවී එක කාලෙක වැඩ හිටියා සැවැත් නුවර, සැවැත් නුවර ඇ උදැසනින්ම පිණ්ඩපාතෙ වැඩම කරලා ලැබුනු පිණ්ඩපාතය වළඳා දවල් කාලය ගත කිරීම පිණිස මුණිවරුන් වැඩ වාසය කරන, ඒ වනය, මුණිවරුන්ගේ වනය කුමක්ද? සැවැත්නුවර තිබුනු අන්ධ වනය, රහතන් වහන්සේලා රහත් තෙරණින් වහන්සේලා නිතර නිතර වැඩම කරපු අන්ධ වනයට මේ උත්තමාවියත් වැඩම කලා දහවල් කාලයේ රුක් සෙවණක ගත කරන්න හිතාගෙන. අන්ධ වනයේ

ඇතුලේ රුක් සෙවණක මේ උත්තමාවිය හුදෙකලාවේ වාඩිවෙලා තනිපංගලමේ ඉන්නකොට වසවර්ති මාරයාට හිතක් උපන්නා, මං මේ උපචාලා භික්ෂුණී තනිපංගලමේ ඉන්නෙ. මේ තනියම ඉන්න භික්ෂුණියව මම භය කරන්න ඕන, බිය වද්දලා ඇව මේ සැනසිලි මාර්ගයෙන් පහකරන්න ඕන කියලා හිතක් පාපී මාරයාට උපන්නා. දැන් පාපී මාරයාවත් දන්නේ නෑ මේ උත්තමාවිය වැඩිය මග. රහතුන් වැඩි මග කෙසේ දකින්නද. ආකාසේව සකුන්තානං පදං තස්සදුරනයා - අහසේ ඉගිල ගිය කුරුල්ලන්ගේ පියවර සටහන් කිසිවෙකුට දැකගන්න නොහැක්කේය. එලෙසින්ම, රහතන් වහන්සේලා වැඩි මග, රහත් තෙරණින් වහන්සේලා වැඩි මග කවුරු නම් දකිත් ද, දැන් මාරයා දන්නෙ නෑ. මාරයා උපාචාලා භික්ෂුණිය ළඟට පැමිණිලා වෙනත් වේශයකින් ආවෙ. සාමාන්‍ය තරුණයෙකුගේ වේශයකින් ඇවිල්ලා උපාචාලා භික්ෂුණියට කියනවා කත්ව නොත්වං භික්ඛුනී උප්පජ්ජිතු කාමා - හා භික්ෂුණී ඔයා කොහේ උපදින්නද ආසා. උපචාලා භික්ෂුනිය මාරයාව හඳුනාගෙනම මෙහෙම කිව්වා. නක්වාහං ආවුසො කච්චති උප්පජ්ජති කාමා - ආයුෂ්මත මම නම් කොහේවත් උපදින්න කැමැත්තක් නෑ. මං උපදින්න ආස නෑ. මාරයා අහනවා ඒ මොකද? ඔය තව්තිසාව, යාමය, තුසිතය වගේ තැන්වල දෙවිවරු ඉන්නවා නොවැ. නිම්මාණරතියෙ, පරනිම්මිතවසවර්තියෙ ආදියෙත් ගොඩාක් දෙවිවරු ඉන්නවා නොවැ. ඉතින් ඔයාටත් පුලුවන්නේ ඒ වගේ තැනක හිත පිහිටුවාගන්න. ඔයාට පඤ්චකාම සැප විඳින්න පුලුවන්නෙ. දැන් මේ නිවනක් පතාගෙන බුද්ධ ශාසනයේ පැවිදි වෙලා සොඳුරු නිවන් මග දියුණු කරන භික්ෂුණියට කාමය තුළ හිත පිහිටුවන්නයි මාරයා මේ වචන කියන්නෙ. මාරයා කියනවා මේ උපචාලා භික්ෂුණියට ඉතින් ඔයාට පුලුවන්නෙ තව්තිසා යන්න. එහෙම නැත්නම් යාමය යන්න, තුසිතය යන්න, නිම්මාණරතිය, පරනිම්මිත වසවර්තිය කියන මේ දිව්‍යලෝක වල යන්න පුලුවන්නෙ. ඒවගේ හිත පිහිටුවාගන්න පුලුවන්නෙ. ඒවගේ ගොඩාක් පඤ්චකාමය තියෙනවානෙ. දැන් මාරයා මොකක්ද මේ ඉස්මතු කරන්නෙ? පඤ්ච කාමය. කාමය මේ දෙව්ලොව උපදින්න කියන කතාවනේ මොකක්ද මේ මාරයා මේ ඉස්මතු කරන්නෙ, කාමය ඉස්මතු කරන්නෙ. මේක හොඳට අර්ථ වශයෙන් තේරුම් ගන්න ඕන එකක් පින්වතුනේ. මාරයා මෙහිදී කලේ කාමය ඉස්මතු කරවන එක. මොකද කාමය කියලා කියන්නෙ කාමාතේ පඨමා සේනා - මරුගේ සේනාවන් අතරේ පළවෙනියටම තියෙන්නෙ කාම සේනාව. මේ කාම ලෝකයක උපන්න සත්වයා කාමයන්ගෙන් ලේසියෙන් ගැලවෙන් නෑ. කාමයන්ගෙන් ලේසියෙන් ගැලවෙන්න නොහැක්කේ

ඒ කාමය කියන්නෙ එච්චර තද බන්ධනයක් නිසා. අතිශයින්ම තද බන්ධනයක්. හීන කාම, මධ්‍යම කාම, ප්‍රණීත කාම වශයෙන් කාම තියෙනවානෙ. ඔය කාමයන්ට මේ සත්වයාගේ හිත හරි වේගයෙන් ඇදී යනවා. බුදු කෙනෙකුගේ ධර්මය තුළ භාග්‍යවතුන් වහන්සේ දේශනා කරන්නෙ කාමය තුළින් ආශ්වාදය හොයාගෙන යන සත්වයාට වැඩිපුර ලැබෙන්නෙ ආදීනවමයි. අප්පස්සාදා දුකා කාමා - කාමය කියලා කියන්නේ අල්ප ආශ්වාදයක් ඇති දුක් ගොඩක්. ඒ නිසා බුදුරජාණන් වහන්සේ නමකගේ ශ්‍රාවකයා හැමතිස්සේම ආසා කරන්නෙ අපිදිබ්බේසු කාමේසු රතිං සෝනාධි ගච්ඡති - දිව්‍යමය කාමයටවත් එයා ආසා කරන් නෑ, තණ්හක්කයො රතො හොති - තෘෂ්ණාව ක්ෂය කිරීමට ආසා කරනවා. හැබැයි තෘෂ්ණාව ක්ෂය කිරීමේ වැඩපිළිවෙලයි කියලා කියන්නෙ නිවන් මග වඩනවා කියලා කියන්නෙ අනුක්‍රමිකව ගුණධර්ම දියුණු කිරීමක්. ඒ ගුණ ධර්ම දියුණු කරගැනීමේදී භාග්‍යවතුන් වහන්සේ බුදුරජුන් ශ්‍රාවකයන්ට අනුදැන වදාළා අනුස්සති, ඔය අනුස්සති භාවනා අතරේ තියෙනවා දේවතානුස්සතිය කියලා එකක්. දේවතානුස්සතිය වඩන ශ්‍රාවකයා කොහොමද දේවතානුස්සතිය වඩන්නෙ, ඔහු කල්පනා කරනවා තව්තිසාවෙත් දෙවිවරු සිටින්නේය. තුසිතයේද දෙවිවරු සිටින්නේය. යාමයේද දෙවිවරු සිටින්නේය. නිම්මාණරතියේ, පරනිම්මිත වසවර්තියේ ආදියේ ද දෙවිවරු සිටින්නේය. මේ දෙවිවරු ඒ දෙව්ලොව උපන්නේ ශ්‍රද්ධා විරිය සති සමාදි ප්‍රඥා කියන ගුණ වැඩීම නිසා. මේ ගුණ වැඩීම තුළින් දෙව්ලොවට යන්න පුලුවන්. එහෙම නම් ඒ දෙවිවරු ළඟ තියෙ ගුණ මා තුලත් තියෙනවා. දෙවිවරු දියුණු කරන ගුණ මමත් දියුණු කරමින් ඉන්නවා. අන්න එහෙම දේවාතනුස්සතියක් බුදුරජාණන් වහන්සේ අනුදැන වදාළා. එතකොට දේවතානුස්සතිය තුළ තව්තිසා, යාම, තුසිත, නිම්මාණරතිය, පරනිම්මිත වසවර්තිය කියන මේ දෙව්ලොවවල් සිහි කරන්නෙ කාමය පතාගෙන නෙවෙයි. ගුණ වැඩීමක් පතාගෙන, නිවන් මග දියුණු කිරීමක් පතාගෙන, තමන්ගේ නිවන් මග පාදා ගැනීක් පතාගෙන. මොකද මනුස්ස ජීවිතේ තියෙනනෙ බොහොම අල්ප ආයුෂක්. මේ අල්ප ආයුෂය ඇතුලේ සමහර කෙනෙකුට ගුණධර්ම පූරණය කරන්න අවකාශ නෑ. එබඳු කෙනාට මේ මනුස්ස ජීවිතය අහිමි වෙනකොට මනුස්ස ජීවිතෙන් පස්සෙත් ගුණ වඩාගන්න පුලුවන් නම් ඒ දෙව්ලොවයි, වෙන තැනක් නෑ. දෙව්ලොව ගිහිල්ලා, සුගති රැකවරණය, ආරක්ෂා වුනොත් දීර්ඝ කාලයක් අර ගුණ වඩන්න අවකාශ තියෙනවා. ඒ උදෙසායි භාග්‍යවතුන් වහන්සේ දේවතානුස්සතියක් අනුදැන වදාළේ. හැබැයි මාරයා මෙතන එහෙම

එකක් නෙවෙයි කියන්නෙ. මාරයා කියන්නෙ කාමය ගැන කතාවක්. එතකොට උපචාලා භික්ෂුණිය මාරයාට උත්තරය දුන්නා, තව්තිසාව, යාමය, තුසිතය කියන ඔය තැන්වල දෙවිවරු ඉන්නවා තමයි. නිම්මාණරතියේ පරනිම්මිත වසවර්තිය ආදියේත් දෙවිවරු ඉන්නවා තමයි. හැබැයි මාරය, ඒ දෙවිවරු කාම බන්ධනයට අහුවෙලයි ඉන්නෙ. ඒ උදවිය ආයෙමත් මාරයාගේ ලෝකයට, මාරයාගේ වසඟයටම යනවා. මාරයාගේ වසඟයේ පවතින්නේ කුමක්ද, සංසාරය. මේ දුක්ඛිත සසර පවතින්නේ මරුගේ වසඟයේ. ඒ උදවිය යළි යළිත්, යළි යළිත් මරුගේ වසඟයටම යනවා. සබ්බො ආදි පිතො ලෝකො සබ්බොලෝකො පදූපියෝ සබ්බො පජ්ජලිතෝ ලෝකෙ සබ්බො ලෝකෙ පකම්පියො - මුළු ලෝකෙම ගිනි ඇවිලිලා තියෙන්නෙ. මුළු ලෝකෙම කෙලෙස් වලින් දුන් දානවා. මුළු ලෝකෙම කෙලෙස් ගින්නෙන් දිලිසෙනවා. සබ්බො ලෝකො පකම්පියො - මුළු ලෝකෙම කම්පා වෙනවා කෙලෙස් ඉස්සරහ. අකම්පිතං අජලිතං අපතුජ්ජන සේවිතං අගති අත්ත මාරස්ස පත්ත මෙ නිරතො මනො - නමුත් අකම්පිත වූ කෙලෙස් වලින් ගිනි නොගන්නා වූ පෘථග්ජන නොවන අය විසින් සේවනය කරන මරුට සමීප විය නොහැකි තැනක් තිබෙන්නේය. අන්න ඒ අමෘත නිවනටයි මගේ හිත යන්නෙ. ඒ අමෘත නිවන කම්පා වන්නේ නැත. කම්පා වෙන්නෙ මේ ලෝක සත්වයා කම්පා වෙන්නෙ කෙලෙස් වලින්. කෙලෙස් දුරු කරපු තැන වන නිවන තුළ කම්පන නැත, ගිනි ද නැත. ඒ නිවන පෘථග්ජන වූ කිසිවෙකුට සේවනය කළ නොහැක්කේය. ඒ නිවනට මාරයාට සමීප විය නොහැකිය. අන්න එතන තමයි කිව්වා මගේ හිත පිහිටලා තියෙන්නෙ. නිර්වාණ ශාන්තිය, නිවනට පත්වෙච්චි උත්තමයන් වහන්සේලා, උත්තමාවියන් කෙලෙස් වලින් කම්පා කරවන්න බෑ. එක කාලයක බුදුරජාණන් වහන්සේ වැඩ හිටියා පින්වතුනේ රජගහනුවර එක්තරා හුදෙකලා කුටියක. ඔය කුටියේ භාග්‍යවතුන් වහන්සේ වැඩ ඉන්නකොට වසවර්ති මාරයාටම හිතක් උපන්නා කියනවා බුදුරජාණන් වහන්සේව බියවද්දන්න ඕන කියලා. භාග්‍යවතුන් වහන්සේව බියවද්දන්න හිතලා මාරයා වේශයක් මවාගත්තා, ඒ වේශය මහා සුවිසාල නාග වේශයක්. කුල්ල්ක විතර ලොකු පෙණ ගොබයක් පුප්පාගෙන මයින හමක් වගේ පිඹ පිඹ මාරයා බුදුරජාණන් වහන්සේ ඉස්සරහට ආවෙ. භාග්‍යවතුන් වහන්සේව බිය වද්දන්න, තැතිගන්වන්න හිතාගෙන. මේ වේශය මවාගෙන ඉන්න මාරයාව භාග්‍යවතුන් වහන්සේ අඳුනගත්තා. අඳුනගෙන කියනවා මාරය, ඔහොම නෙවෙයි, නබං පලෙය්‍ය - මේ අහස් ගැබ පැළිලා ගියත්, පඨවි චලෙය්‍ය - මේ

පෘථිවියම හෙල්ලුම් කාලා ගියත්, සබ්බේසු පානේසු උදසන්තෙයය - මේ මිනිස්සු උමතු වෙන විදියට, සියලු සත්වයෝ උමතු වෙන විදියේ මහ බිහිසුණු අරමුණක් තථාගතයන් වහන්සේගේ ඉස්සරහට ආවත් සල්ලං පිච්චෙ උරසේ පක්ඛිතෙයය - තියුණු සැතක් අරගෙන ඒ සැතින් මේ හදවත පසාරු කරගෙන යන්න ඇන්නත්, උපදීසුතානං නකරන්ති පුත්තා - බුදුරජාණන් වහන්සේලා කෙලෙස් නැසූ උත්තමයො කෙලෙස් වලින් පිළිසරණක් හොයන් නෑ කිව්වා. උන්වහන්සේලා කෙලෙස් නසලා නිසා. ඉතින් ඒ ගැන තමයි මේ භික්ෂුණිය කියන්නෙ, නිවන පසක් කරපු උත්තමයො විතරක් සේවනය කරන ඒ අමෘත නිවනටමයි මගේ හිත ඇලුනෙ, එතෙන්ට මාරයාට යන්න බෑ කියලා. ඉතින් ඒ ගැන අපේක්ෂාවෙන්නේ පින්වතුනේ භික්ෂුවක් ධර්මයේ හැසිරෙන්නෙ. භික්ෂුවක් භික්ෂුණියක් බුද්ධ ශාසනයකට පැමිණිලා ධර්මයේ හැසිරෙන්නෙ නිවන පතාගෙන. ඒ නිවන පතාගෙන ධර්මයේ හැසිරෙන භික්ෂූන්ගෙන් දවසක් භාග්‍යවතුන් වහන්සේ අහනවා මහණෙනි, ඔය අන්‍යාගමිකයො එහෙමත් පාරෙදි හමුවෙලා ඔබෙන් අහනවා නේද, ආයුෂ්මතුනි ඔබවහන්සේලා ඔය විදියට කෙස් රැවුල් ඉවත් කරලා, අලංකාර වස්ත්‍රාභරණ ඉවත් කරලා, ඔය කසාවතකින් ගත දවටාගෙන ශ්‍රමණ ජීවිතයක් ගත කරන්නෙ ඔබ වහන්සේලා සුගති ලෝකයක් පතාගෙනද, එහෙම අහනවා. එහෙම අහද්දි මහණෙනි ඔබට ලැජ්ජා හිතෙනවා නේද කියලා ඇහුවා. ඇයි ලැජ්ජා හිතෙනවා නේද කියලා ඇහුවෙ, භික්ෂුවක් බුද්ධ ශාසනය තුළට පැමිණිලා සාරිපුත්ත මහරහතන් වහන්සේ, මහාමොග්ගල්ලාන මහරහතන් වහන්සේ මිනුම්දණ්ඩ කරගෙන ධර්මයේ හැසිරෙන්නෙ නිවනක් පතාගෙන. භික්ෂුණියක් බුද්ධ ශාසනයට පැමිණිලා ඛේමා උත්පලවණ්ණා කියන අර්හත් උත්තමාවියන්ව මිනුම්දණ්ඩ කරගෙන ධර්මයේ හැසිරෙන්නෙ නිවනක් පතාගෙන, සුගති පතාගෙන නෙවෙයි. කාමය පතාගෙන නෙවෙයි, ඔබට ලැජ්ජා හිතෙනවා නේද කියලා ඇහුවා. එතකොට භික්ෂූන් වහන්සේලා කියනවා අනේ ඔව් ස්වාමීනී, හරි ලැජ්ජයි කියනවා. බුදුරජාණන් වහන්සේ වදාරනවා මහණෙනි, කුසලයක් තුලින් උපද්දන, පිනක් තුලින් උපද්දන සුගතියටත් ඔබ ඔය විදියට සුගති සැපයත්, ඔබ නිකං ලැජ්ජාවට පත්වෙනවා නම් සුගති සැප ඉස්සරහා, සුගති සැපයක් පිළිකෙව් කරනවා නම් මහණෙනි, ඔබ කොහොමත් අකුසලයේ පාපය පිළිකෙව් කරන්නම ඕන කිව්වා. අන්න ඒ අවවාදය තමයි භාග්‍යවතුන් වහන්සේ දුන්නෙ. ඉතින් එහෙම වීර්යයෙන් ධර්මයේ හැසිරෙච්චි භික්ෂුවකට ඒ කාලෙ හරි පුදුම සහගත සිද්ධියක් සිද්ධ

වුනා. ඒ භික්ෂූන් වහන්සේ බුද්ධ ශාසනයට පැමිණිලා ධර්ම මාර්ගය දියුණු කරගත්තේ අමෘත නිවන පතාගෙන. මාරයාට සමීප විය නොහැකි තැන වන නිවන පතාගෙන ඒ භික්ෂුව වීර්යයෙන් ධර්මයේ හැසිරුනා. එහෙම වීර්යයෙන් ධර්මයේ හැසිරෙමින් ඉද්දි ඒ භික්ෂුවට අනපේක්ෂිත විදියට ශාරීරික ආබාධයක් හටගත්තා. ඒ ශාරීරික ආබාධය පින්වතුනි ඒ භික්ෂුව කාලක්‍රියා කලා, අපවත් වුනා. දැන් බලන්න මේ ජීවිතයට වෙන දේවල්. අපි නිවනක් පතාගෙන ධර්මයේ හැසිරෙන්න පටන් ගන්නවා. මේ ජවිතයේම චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරනවා කියලා හිතාගෙන අපි ධර්මයේ හැසිරෙන්න පටන් ගන්නවා. නමුත් අපේ වීර්යය කොච්චර බලවත්ව තිබුනත්, අපේ ආශාව කොච්චර තියුණුව තිබුනත් මේ ජීවිතේ අහිමි වෙනවා කියන එක ඕනම වෙලාවක වෙන්න පුලුවන්. අර භික්ෂුවත් හරී ආසාවෙන් නිවන් මග දියුණු කලේ. පුදුම කැපවීමකින් ආර්ය අෂ්ටාංගික මාර්ගය දියුණු කලා. හැබැයි එසේ දියුණු කරමින් ඉද්දීම ඒ භික්ෂුවගේ ආයුෂය අවසන් වුනා. ඒ භික්ෂුව කාලක්‍රියා කලා. කළුරිය කරලා ඒ භික්ෂුව උපදිනවා තව්තිසාවේ. අන්න ධර්ම මාර්ගයේ හැසිරිච්චි එකේ විපාකය. ඒ භික්ෂුව චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න මහන්සි වෙනවා නිවන් මග දියුණු කරන්න මහන්සි වෙනවා කියලා පින් කරන එකට ගරහා ගරහා හිටියේ නෑ. සුගති ලෝක ඕන නෑ කියලා ඒවාට ගරහා ගරහා හිටියේ නෑ, ඒ භික්ෂුව කලේ නිවන් මග පුරුදු කරපු එක. සම්මා දිට්ඨි, සම්මා සංකල්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි කියන ආර්ය අෂ්ටාංගික මාර්ගය සීල, සමාධි, ප්‍රඥා වශයෙන් භික්ෂුව පුරුදු කලා. ඒ පුරුදු කරනකොට භික්ෂුව තුළ පින් කුසල් වැඩුනා. ඒ වැඩෙන ලද පින් කුසල් බලයෙන් කාලක්‍රියා කරනකොට අපවත් වෙනකොට ඒ භික්ෂුව ගිහින් උපන්නා තව්තිසාවෙ. දැන් තව්තිසා දෙව්භවනේ උපන්නාට පස්සෙ ඒ භික්ෂුවට අර භික්ෂු වේශය නෑ. දැන් තව්තිසාවේ ඉතා සොඳුරු මනස්කාන්ත රූ සපුවක් ඇති දේව පුත්‍රයෙක්. මේ දේව පුත්‍රයාට පුණ්‍ය බල මහිමය නිසා සේවිකාවෝ පන්සීය දෙනෙක් ලැබිලා තිබුනා ඇප උපස්ථාන පිණිස. හැබැයි තව්තිසාවේ උපන්නත් දේව පුත්‍රයාගේ සිතුවිලි, ඒ දේවපුත්‍රයාගේ අදහස් තිබුනේ අර පැවිදිව පිළිවෙත් පුරපු භික්ෂුවට ගැලපෙන විදියට. දැන් ඒ භික්ෂූන් වහන්සේ යම් ආකාරයක වීර්යකින් ධර්මය පුරුදු වුනාට ඒ වීර්යය අර දේවපුත්‍රයාට තියෙනවා. යමක් ඉලක්ක කරගෙන හිටියාද, ඒ ඉලක්ක කරගෙන හිටපු නිවන දේවපුත්‍රයාගේ හදවතෙත් තියෙනවා. කාමය කියන එක ගැන ඔහුට ආසාවක් ඇතිවුන් නෑ. අන්න ඒක තමයි අපේ ජීවිතයට ගන්න තියෙන වටිනාම දේ. අපි

ආසාවෙන් මේ ජීවිතේ ධර්ම මාර්ගයේ හැසිරුණොත් නිවනක් පතාගෙන පින්වතුනේ සුගතියක උපන්නත් කාමයේ මුලාවෙන් නෑ. තව්තිසාව, යාමය, තුසිතය, නිම්මාණරතිය, පරනිම්මිත වසවර්තිය කියන මේ කාමයන්ගෙන්, ප්‍රණීත කාමයන්ගෙන් පිරිච්චි දෙව්ලොවක උපන්නත් ඒවාට වසඟ වෙන් නෑ. නිවන් මග ගැන හිතක් තිබුනොත් ජීවිතේ ගැන තේරුමක් තිබුනොත් බුදුරජාණන් වහන්සේගේ ධර්මය ගැන බලවත් ප්‍රසාදයක් තිබුනොත් අන්න හිරවෙන් නෑ. දැන් එතන උපන්න මේ දේවපුත්‍රයා දිව්‍ය අප්සරාවියොත් එක්ක වාසය කරනකොට පොඩි වෙලාවක් හරි කරදෙරේ මේ දේවපුත්‍රයාට. දිව්‍ය අප්සරාවියො කතා කරන ඒවා ඇහෙන්නෙ මහා කර්කශ විදියට. ඇලාගේ මියුරු ස්වරය ඒ දේවපුත්‍රයාට කර්කශ වුනා. ඇලා කරන ආයාචනා, ආරාධනා, ඇලාගේ බොළඳ බස් ඒවා අප්‍රසන්න වුනා. මැවිලා තියෙන සුවිශාල දේව මන්දිර, ඒ දිව්‍ය භවන, දිව්‍ය විමානය, ඔහුගේ හිත අලවන්න සමත් වුන් නෑ, බුදුරජාණන් වහන්සේ ළඟට ඒ දේවපුත්‍රයා, සැවැත් නුවර ජේතවනාරාමයේ භාග්‍යවතුන් වහන්සේ වැඩ ඉද්දි පැමිණෙනවා. පැමිණිලා භාග්‍යවතුන් වහන්සේට කියනවා අච්චරා ඝන සංගුට්ඨං පිසාච ගන සේවිතං වනන්තං මෝහනං නාම කතං යාත්‍රා භවිස්සති - අනේ ස්වාමීනී මට අප්සරාවියො ගොඩාක් ඉන්නවා. ඒ අප්සරාවියො ඝෝෂා කරනවා හැමතිස්සේම, හරියට පිසාචයො ගොඩක් එකතු වුනා වගේ. එතකොට අර සොඳුරු අප්සරාවියන්ගේ නොයෙක් නොයෙක් ආරාධනා ආයාචනා ඒ දේවපුත්‍රයාට දැනුනෙ කොහොමද, හරියට පිසාචයො කෑ ගහනවා වගේ. ස්වාමීනී මට තේරෙන්නේ මං වැටුනේ මෝහයෙන් හැදිච්චි වනාන්තරයකට කියලායි. ස්වාමීනී මං ආසයි මෙතනින් නිදහස් වෙන්න. කොහොමද මෙතනින් නිදහස් වෙන්නෙ? අන්න භාග්‍යවතුන් වහ්නසේ වදාළා තවදුරටත් නිවන් මග දියුණු කරගන්න ධර්මයක්. උජ්ජුකො නාම සෝමග්ගො අභයා නාම සාදිසා - භාග්‍යවතුන් වහන්සේ වදාරනවා, දෙවිය ඒ මාර්ගයට කියන්නෙ ඍජු මාර්ගය කියලා. ඒ මාර්ගය වැටිලා තියෙන දිශාවට කියන්නෙ අභය කියලා. භය රහිත තැන කියලා. රතො අකොජනො නාම ධම්මචක්කේහි සංයුතො - ඒ මාර්ගයේ යන රථයක් තියෙනවා, ඒ රථය කිසි සද්දයක් නැති නිහඬ රථයක්. සද්ද දාගෙන රථයක් නෙවෙයි. ලෝකෙට බෙර ගහගෙන යන රථයක් නෙවෙයි. ඒ රථය නිහඬ රථයක්. නිශ්ශබ්දව අහිංසකව යන රථයක් තියෙනවා. ධම්මචක්කේහි සංයුතො - ඒ රථය කරකැවෙන්නේ ධර්මය කියන රෝද වලින්. හරිම ලස්සනයි මේ කාරණය. හිරිතස්ස අපාලම්බො සපස්ස පරිවාරනං - ඒ රථයේ කෙනෙක් වාඩිවෙනවා

නම් වාඩිවීම පිණිස තියෙන අසුන තමයි ලැජ්ජා භය දෙක. පාපයට ලැජ්ජාව, පාපයට භය කියන දෙක තියෙනවා නම් ඒ රථයේ අසුන් තිබේ. සතස්ස පරිවාරනං - ඒ රථය සරසලා තියෙන්නෙ ඒ රථය සම්පූර්ණයෙන්ම සැරසෙන්නේ රථ සැරසිල්ල, සිහිය. ධම්මා හං සාරථිං භූමි සම්මා දිට්ඨි පුරේ ජවං - සම්මා දිට්ඨිය පෙරටු කරගත් ආධ්‍යාත්ම බලයෙන් යුතු සද්ධර්මය ඒ රථයේ රියදුරා. සම්මා දිට්ඨිය පෙරටු කරගත්ත ආධ්‍යාත්ම බලයෙන් යුතු සද්ධර්මයක් ඇත්ද, එය තමයි රථ රියදුරා. රථ රියදුරා තමයි රථය ඉස්සරහට අරගෙන යන්නෙ. රථයට ඉස්සරහට අරගෙන යන්න නම් සම්මා දිට්ඨියෙන් යුක්තව ධර්මය දරාගෙන ඉන්න ඕන. එතනමයි ගමන තියෙන්නෙ. යස්ස එත්තා දිසං ඤානං ඉත්ථියා පුරිසස්සවා සවේ ඒතෙන යානෙන නිබ්බානස්සෙව සන්තිකෙ - යම් කිසි ස්ත්‍රියෙකුට හෝ පුරුෂයෙකුට හෝ ඔය ජාතියේ රථයක් තියෙනවා නම්, ඔය ජාතියේ රථය කියලා කිව්වෙ මොකක්ද, සම්මා දිට්ඨිය පෙරටු කරගත්ත ආධ්‍යාත්ම බලයෙන් යුක්ත සද්ධර්මය කියන රථ රියදුරා ඉන්න, ධර්මය කියන රථ රෝද ඇති, සිහිය නම් වූ සැරසිල්ල ඇති, පවට ලැජ්ජාව භය නම් වූ ආසන වලින් සමන්විත අභය නිර්භය භය රහිත බව නම් වූ නිවන දෙසට යොමුවෙලා තියෙන ආර්ය අෂ්ටාංගික මාර්ගය කියන පාරේ ගමන් කරන රථයක් තියෙනවා නම්, එයා ඒ රථයේ නැගිලා මේ ස්ත්‍රිය හෝ පුරුෂයා අමා නිවන ළඟටම යනවා කියලයි භාග්‍යවතුන් වහන්සේ දේශනා කළේ. ඔන්න නිවනට යන්න රථයක්. නිවන කරා යන රථය ඒ රථය තමා තමාගේ ජීවිතය තුළ හදාගන්න ඕන. ඒ රථය හදන්නෙ පින්වතුනේ මේ බාහිර දේවල් වලින් නෙවෙයි. ඒ රථය හදන්නෙ ගුණධර්ම වලින්. ඒ රථය නිර්මාණය කරගන්නෙ තමන්ගේ ජීවිතය තුළ. ඒ රථය තියෙනවාද නැද්ද කියලා බලන්න පුලුවන්නෙ තමන්ට තමන් තුළින්. තමන් ගාව තියෙනවා නම් සම්මා දිට්ඨිය, තමන් තුළ තියෙනවා නම් ධර්ම ගෞරවය, තමන් ගාව තියෙනවා නම් මනාකොට ශ්‍රවණය කළ ධාරණය කරගත්ත සද්ධර්මය, තමා තුළ තියෙනවා නම් සිහිය, තමා තුළ තියෙනවා නම් පවට ලැජ්ජාව, පවට භය, ඊළඟට තමන් තුළ තියෙනවා නම් නිහඬව, අහිංසකව, ආර්ය අෂ්ටාංගික මාර්ගය දියුණු කරන බව තමන් තුළ තියෙනවා නම් ඉලක්කය, නිවන පිණිස පවතින ඉලක්කය. අන්න ඔබ ළඟ රථය තිබේ. ඔබ ළඟ රථය තියෙනවා නිවන කරා යන්න, ඔය අංග තියෙනවා නම්. ඉතින් ඔය විදියේ රථයක් කෙනෙක් හදාගත්තොත් එයා නිවන ළඟටම යනවා. ඉතින් උපචාලා තෙරණිය කියන්නෙ ඒ රථයහදාගෙන ඒ රථයෙන් නිවනට ගියපු උත්තමාවියක්. නිවනට වැඩම කරපු උත්තමාවිය ළඟයි මාරයා මේ

ප්‍රශ්නය ඇහුවේ. මාරයාට පිළිතුරු ලැබුනාට පස්සෙ මාරයා යළි මෙහෙම අහනවා. කිං ම ජාතිං න රෝචේසී - ඇයි භික්ෂුණිය ඔයා ඉපදෙන්න අකැමැති. ජාතො කාමානි භුඤ්ජති - ඉපදුනාම නේද මේ කාම සැප සම්පත් අනුභව කරගෙන සුවසේ ඉන්න පුලුවන් වෙන්නෙ. භුඤ්ජානි කාමරතියෝ මාහෝ උපපච්චාන තාපිනේ - ඔය විකාර නැතිව කාම සම්පත් වලට ඇලිලා ඒවා අනුභව කරන්න. නිකං පස්සේ දුක්වෙන්න එපා කිව්වා. බලන්න මාරයා කියන ඒවා. ඔය විකාර අත්හැරලා දාලා මේ කාම සැපයට ඇලෙන්න, ආයෙ උපතකට ආසා කරන්න. නිකං විකාර සිතුවිලිවලින් යුක්තව ඉඳලා පස්සෙ පසුතැවෙන්න එපා කිව්වා. එතකොට මාරයාට හරී ලස්සන උත්තරයක් දෙනවා. දැන් ඕකනෙ පින්වත්නි සාමාන්‍යයෙන් පෙන්වන දේ. ඉපදුනාම තියෙන දේවල් විදියට මේ ලෝකයේ මාර පාක්ෂික බලවේග පෙන්වන දේවල් තමයි ඉපදුනාම කම්සැප තිබේ, ඉපදුනාම ජීවිතේ නොයෙක් සැප විඳිය හැක්කේය. සැප සම්පත් එක්ක සුවසේ සිටිය හැක්කේය. මේක තමයි සාමාන්‍ය මාරපාක්ෂික ලෝකය පෙන්වන දේ. හැබැයි එහෙම පෙන්වනකොට වැහිච්ච දෙයක් තියෙනවා. ඒ වැහිච්ච දේ දකින්න තියෙන්නෙ නුවණින්. ඒ නුවණ ලැබෙන්නේ බුදුරජාණන් වහන්සේගේ ධර්මයෙන්. බලන්න භික්ෂුණිය කියන දේ. ජාතස්ස මරණං හෝති හත්ථ පාදාන ඡේදනං - මාරය ඉපදෙන කෙනාට මරණය තියෙනවා නොවැ. අත්පා කැඩී බිඳී යාම තියෙනවා නොවැ. වද වන්ධ පරිප්ජේසං, නොයෙක් වද බන්ධන තියෙනවා නොවැ. නොයෙක් ලාමක කෙලෙස් නිසා පීඩා තියෙනවා නොවැ. යාතො දුක්ඛං ගච්ඡති, මාරය ඉපදිච්චි කෙනාට වැඩිපුර ලැබෙන්නෙ දුකමයි. මාරයා පෙන්නුවෙ ඉපදුනාම කම්සැප අනුභව කරන්න පුලුවන්. සැප සනීපෙට ඉන්න පුලුවන් කියලා. හැබැයි භික්ෂුණිය නුවණින් භාග්‍යවතුන් වහන්සේගේ ධර්මය නුවණින් අරගෙන මේ ජීවිතය ගැන දැක්ක දෙයක් තියෙනවා. ඇය කියනවා, මාරය උපන්නොත් තමයි මැරෙන්න සිද්ධ වෙන්නෙ. ඉපදිච්චි කෙනා අනුක්‍රමිකව වයසට ගිහිල්ලා මරණය ඉස්සරහ මරණයට මුහුණ දෙනවා කියන තැනට එන්න ඕන. මරභය උපන්න කෙනාට තියෙන්නෙ. ජීවිතය අහිමි වීමේ භය උපන්න කෙනාට තියෙන්නෙ. ඉපදුනා නම් මැරෙනවා. ඉපදිච්චි කෙනාට අතපය කැඩී බිඳී යාම කියන එක තියෙනවා. ඉපදිච්චි කෙනාට නොයෙක් වද බන්ධන කියන ඒවා තියෙනවා. බලන්න අහිංසකව ඉන්න මිනිස්සුන්ටත් වද බන්ධන වලට ලක්වෙන්න වෙන්නැද්ද උපන්න නිසා. අන්තවාදීන්, ත්‍රස්තවාදීන්, ම්ලේච්ඡ මිනිස්සු මේ ඇයෝ නිසා නොයෙක් වදබන්ධන. නොයෙක් වදබන්ධන වලට මුහුණ දෙන්න සිද්ධ වෙනවා උපන්න නිසා. ඉපදිච්චි කෙනාටමයි කෙලෙස්

පීඩා සියල්ලක් තියෙන්නෙ. රාගයෙන් පීඩා උපදිනවා, ද්වේෂයේන පීඩා උපදිනවා, ඊරිසියා කුහකකම් වලින් පීඩා විඳින්න වෙනවා, පීඩා උහුල උහුල ඉන්න සිද්ධ වෙනවා උපන්න නිසා. ඊළඟට මේ කයක් උරුම කරගෙන බලන්න, මේ කයට එක එක වෙලාවට එක එක වෙහෙසවල්. සමහර වෙලාවට ඔලුවෙ කැක්කුම, ඒවා උහුලගෙන ඉන්න ඕන. උපන්න නිසා. වෙලාවකට හන්දිපත් රුදා, ඒවා උහුලගෙන ඉන්න ඕන උපන්න නිසා. තව වෙලාවකට බඩේ අමාරු, ඒවා උහුලන්න ඕන උපන්න නිසා. ඊළඟට කොලෙස්ටරෝල් වැඩියි කියයි, සීනි වැඩියි කියයි, නොයෙක් නොයෙක් දේ, උපන්න නිසා. ඉපදුනාට පස්සෙ මේවා ඔක්කොම උහුලන්න එපැයි. අරෙහෙ කහනවා, මෙහෙ කහනවා. අරෙහෙ ගෙඩි දානවා, හැමදේම උපන්න නිසා. උපතක් එක්ක තියෙන මේ ප්‍රශ්නය අහෝ සාමාන්‍ය ලෝකයට නොතේරෙන හැටි. උපත නිසා විඳව විඳවා ඉන්නවා. මේ ඔක්කොම ඉපදිච්චි නිසා කියන එක සාමාන්‍ය කෙනෙක් තේරුම් ගන් නෑ. අපිට මහා වාසනාවක් බුදු කෙනෙකුගේ බණ අහන්න ලැබීම. ඒ බණ පදයක් හින්දා තමයි අපි අඩුම තරමේ මේ දේවල් මේ විදියට හරි තේරුම් ගන්නෙ. අවබෝධයක් නැතත් අපිට මේ ජීවිතය ගැන යම් තේරුමක් ඇති කරගන්න අවකාශයක් බුදුරජාණන් වහන්සේගේ ධර්මය නිසා ලැබිලා තියෙනවා. දැන් මේ භික්ෂුණිය අවබෝධයෙන්ම කියනවා මාරය, ඉපදුනු කෙනාට මට නම් පේන්නෙ දුකම තියෙනවා කියලයි. අත්ථි සක්‍ය කුලේ ජාතො සම්බුද්ධො අපරාජිතො - මාරය ශාක්‍ය වංශයේ ඉපදුනු අපරාජිත බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්නවානෙ. දැන් මේ භාග්‍යවතුන් වහන්සේ වැඩ හිටපු යුගයනෙ, කියනවා මාරය සාක්‍ය කුලයේ උපන්න අපරාජිත බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්නවා නොවැ, අපරාජිත බුදුසමිදුන් කියලා කිව්වෙ මේ ලෝකයේ හැම සත්වයෙක්ම පරදිනවා මාරයාට. මේ ලෝකයේ දෙවියන් බඹුන් හැමදෙනාම මරුට පැරදිලා ඉන්නෙ. මාරයාගේ පේසපාසය, කෙලෙස් තොණ්ඩුවෙන් කවුරුත් නිදහස් නෑ, හැබැයි බුදුරජාණන් වහන්සේ මාරයාවත් පැරැද්දුවා. ඒ නිසා කියනවා අපරාජිතයි. බුදුරජාණන් වහන්සේ මාරයා පරද්දවපු නිසා බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක භික්ෂු භික්ෂුණීනුත් මාරයාව පැරැද්දුවා. උන්වහන්සේ තමයි මේ ඉපදීම ඉක්මයන සද්ධර්මය මට කියලා දුන්නෙ, මාරයා මොකක්ද ඉපදීම ඉක්ම යන සද්ධර්මය? දුක්ඛං දුක්ඛ සමුප්පාදං දුක්කස්සච අතික්කමං අරියං චට්ඨංගිකං මග්ගං දුක්ඛූපසමගාමිනං - වෙන මොකුත් නෙවෙයි, ඉපදීම ඉක්මවා යන ධර්මය කියලා කියන්නෙ මොකක්ද, ඉපදීම ඉක්මවා යනවා කියන එක පින්වතුනේ අපි ආයෙත් තෝරගන්න ඕන. ඉපදීම ඉක්ම යනවා කියන්නෙ

මොකක්ද? මරණය ඉක්මවා යාම, වදබන්ධන ඉක්මවා යාම, නොයෙකුත් රෝග පීඩා ඉක්මවා යෑම, වයෝවෘද්ධ වීම ඉක්මවා යෑම, ප්‍රියයන්ගෙන් වෙන්වීම අප්‍රියන් හා එක්වම යන දුක ඉක්මවා යෑම, ශෝක වැළපීම් දුක් දොම්නස් සුසුම් මේ සියල්ල ඉක්මවා යාම, මේක තමයි ඉපදීම ඉක්මවා යාම කියලා කියන්නෙ. එතකොට කෙනෙකුට කොහොමද ඉපදීම ඉක්මවා යන්න ලැබෙන්නෙ? චතුරාර්ය සත්‍යය අවබෝධ කලොත්. දුක්ඛං - දුක අවබෝධ කිරීම. දුක අවාබෝධ කරපු කෙනා සම්පූර්ණයෙන් පිරිසිඳ දකිනවා, මේ තමයි දුක. එතකොට දුකම දකින ශ්‍රාවකයා මේ ලෝකෙට මුලාවෙන් නෑ, ඒ නිසා දුක කියලා කියන්නෙ අවබෝධ කරන්න තියෙන එකක්. දුක්ඛ සමුප්පාද, දුකේ හටගැනීම, දුකේ හටගැනීම කියලා කියන්නෙ තෘෂ්ණාව. තෘෂ්ණාව ප්‍රහාණය කරන්න ඕන. දුක්කස්ස ච අතික්ඛමං - දුක ඉක්මවා යෑම, දුක ඉක්මවා යෑම කියන්නෙ නිවන. නිවන කියන්නෙ සාක්ෂාත් කරන්න ඕන දේ. අරියං ච අට්ඨංගිකං මග්ගං දුක්ඛූපසමගාමිනං - මේ දුක් ඔක්කොම නසන්න මාර්ගයක් තියෙනවා, ඒ මාර්ගයට කියන්නෙ ආර්ය අෂ්ටාංගික මාර්ගය කියලයි. ඔන්න ඔය ධර්මයන්ගෙන් තමයි ඉපදීම ඉක්මවා යන්න තියෙන්නෙ. ඔය චතුරාර්ය සත්‍යයටයි කියන්නෙ පින්වතුනි ඉපදීම ඉක්මවා යන සද්ධර්මය. තස්සා හං වචනං සුත්වා විහරිං සාසනේ රථා ඉසෝ විජ්ජා අනුප්පත්තා කතං බුද්ධස්ස සාසනං - මාරය උන්වහන්සේගෙන් මං ඒ උතුම් වචන දැනගත්තා. චතුරාර්ය සත්‍යය දැනගත්තා. බුදු සසුනේ ඇලී වාසය කලා. මාත් ත්‍රිවිද්‍යාව ලබාගත්තා. පුබ්බේනිවාස ඥාණය, චුතූපපාත ඥාණය, ආසවක්ඛය ඥාණය කියන මේ ඥාණ මං ලබාගත්තා. කතං බුද්ධස්ස සාසනං - බුදුරජාණන් වහන්සේගේ ශාසනය සම්පූර්ණ කලා. සබ්බත්ථ විහතා නන්දි - හැමදෙයක් ගැනම තිබුනු තණ්හාව මං නැතිකරලා දැම්මා. තමොක්ඛන්ධො පධාලිතො - මේ ජීවිතේ වහගෙන තියෙන මෝහ පටලය වන අවිද්‍යාව මං බිඳලා දැම්මා. ඒවං ජානාහි පාපිම - පාපී මාරය ඔන්න ඔය විදියටයි මේ උපචාලා භික්ෂුණිය ගැන ඔහේ දැනගන්න ඕන. නිහතො තමසි අන්තක - මාරය මේ කාරණයේදී නැහුනේ ඔබයි. මට මොකුත් හානි වුන් නෑ කිව්වා. ඔහේ තමයි කිව්වා නාම ඉපදීම තුළ ගුලිවෙලා ඉන්න කෙනා. ඉපදීම කියන එක උරුම කරගෙන ඉන්නෙ උපචාලා භික්ෂුණිය නොවෙයි, ඔහේ කිව්වා. ඔහේ චතුරාර්ය සත්‍යය දැක්ක කෙනෙක් නෙවෙයි. ඔහේ ඉපදීම උරුම කරගෙන ඉන්නවා. ඉපදීම උරුම කරගත්ත ඔහේට සියලු වදබන්ධන විවෘත වෙලා. සියලු දුක් දොම්නස් විවෘත වෙලා, සියලු විඳවිලි විවෘත වෙලා. හැබැයි මේ උපචාලා උත්තමාවිය ඒ ඔක්කොම නසා

දැමුවා. අපරාජිත බුදුරජාණන් වහන්සේගේ ඉපදීම ඉක්මවා යන ධර්මය අවබෝධ කරගෙන. හරිම ලස්සනයි. එතකොට පාපී මාරයා අහගෙන ඉඳලා හරීයට දුක හිතුනා. උපචාලා භික්ෂුණිය මාව අඳුනගත්තා නොවැ, උපචාලා භික්ෂුණිය මාව දැනගත්තා නොවැ කියලා නොසතුටු වුනා. නොසතුටු වෙලා පාපී මාරයා එතනම තත්‍රේව අන්තරධායිති, අතුරුදහන් වෙලා නොපෙනී ගියා. මේ බුද්ධ ශාසනය කියන්නෙ පින්වතුනි අසිරිමත් තැනක්, ඔන්න ඔය විදියේ අවබෝධය තුළින අභීත සිංහනාද කරපු මුණිවරු, මුණිවරියො මේ බුද්ධ ශාසනතේ බිහි වුනා. උන්වහන්සේලා ජීවිතාර්ථය ලබාගෙන මේ ලෝකය සම්බන්ධයෙන් ඇත්ත අවබෝධ කරගෙන අපිට මේ ගාථාවන් වදාළේ ආධ්‍යාත්ම ශක්තියක් ඇති කරගන්න. සම්මා දිට්ඨිය පෙරටු කරගෙන සද්ධර්මය තුළ බලවත්ව පිහිටන්න උපකාරී වෙනවා මේ රහතුන්ගේ වදන්. රහත් මුණිවරුන්ගේ මුණිවරියන්ගේ වදන්. ඒ නිසා හොඳට මේ අදහස් හිතට අරගන්න. ඊළඟට මේ කාරණා හොඳට තෝරා බේරාගන්න. ඒ තෝරා බේරාගෙන තමන්ගේ ජීවිතේ එකම සැනසුම චතුරාර්ය සත්‍යය අවබෝධ කිරීම බව දැනගන්න. හොඳට ගුණධර්ම වඩන්න. චතුරාර්ය සත්‍ය අවබෝධය තමයි අපිට තියෙන එකම පිළිසරණ කියලා දැනගත්ත කෙනා හරියට ඒක නුවණින් දැක්කා නම් කරන්නෙ මේ පිනට ගරහා ගරහා ඉන්න එක නෙවෙයි. වන්දනාමාන වලට ගරහා ගරහා ඉන්න එක නෙවෙයි. ඕවා කරලා හරියන්නෙ නෑ කියලා පඬිවදන් තෙපළ තෙපළ ඉන්න එක නෙවෙයි, තමන්ගේ මාර්ගය තමන් පාදාගන්න මහන්සි ගන්න එක. තමන්ගේ මාර්ගය පාදා ගන්න කෙනා, අහිංසකව ටික ටික හීන්සීරුවේ ගුණ වඩනවා, නිහඬ රථය වගේ, එයාගේ සද්ද නෑ. තමන්ගේ ධර්ම මාර්ගය කියලා කියන්නෙ තමන්ට පෞද්ගලික එකක්. පොදුවේ බුදුරජාණන් වහන්සේ දේශනා කරපු ධර්මයක් තියෙනවා. ඒ ධර්මය තමන්ගේ ජීවිතයට අරගෙන තමන් පෞද්ගලිකව නිවන් මග හදාගන්න ඕන, සම්මා දිට්ඨිය හදාගන්න ඕන, සම්මා සංකල්ප හදාගන්න ඕන. නෙක්ඛම්ම සංකල්ප, මෛත්‍රී සහගත සංකල්ප, කරුණා සහගත සංකල්ප හදාගන්න ඕන. ඊළඟට තමන්ගේ කායික ක්‍රියා හරියට හදාගන්න ඕන - සම්මා කම්මන්ත. තමන්ගේ වචන හරියට හදාගන්න ඕන - සම්මා වාචා. තමන් ජීවත් වෙන ප්‍රතිපදාව තමන්ගේ ජීවිත යාත්‍රාව හරියට හදාගන්න ඕන - සම්මා ආජීව. අකුසල් දුරු කරන්නත්, කුසල් වඩන්නත්, වීරිය කරන්න ඕන - සම්මා වායාම. හොඳට සතිපට්ඨානයේ හිත පිහිටන්න ඕන - සම්මා සති. කුසල් අරමුණ තුළ හිත එකඟ කරන්න මහන්සි ගන්න ඕන. සම්මා සමාධි. ඒක තමයි තමන්ගේ

මාර්ගය හදාගැනීම කියලා කියන්නෙ. නිහඬව තමන්ගේ මාර්ගය හදාගන්න කෙනා ඒකාන්ත වශයෙන් උජුකො නාම මග්ගො - ඍජු මාර්ගය වන ආර්ය අෂ්ටාංගික මාර්ගයෙන් අභයානාම සාදිසා - බිය රහිත වූ දිසාව නම් වූ දෙසට, අමෘත නිවන දෙසට ගමන් කරනු ඇත. ඉතින් එසේ නිවනට ගමන් කරපු උපචාලා නම් වූ රහත් උත්තමාවියගේ ගාථා අපි ශ්‍රවණය කලා. ඒ උත්තමාවියටත් නමස්කාර කරමින් අපිත අධිෂ්ටානයක් ඇති කරගනිමු මේ බුද්ධශාසනය මුණගැහිච්චි දුර්ලභ මනුස්ස ජීවිතේ අපි හැමදෙනාටත් සුවසේ පින් කරගන්න ලැබේවා. සුවසේ කුසල් කරගන්න අවකාශ සැලසේවා. අපටත් ආර්ය අෂ්ටාංගික මාර්ගය කියන සොඳුරු නිවන් මග දුක ඉක්මවා යන සද්ධර්ම මාර්ගය අනුගමනය කරලා රහතන් වහන්සේලා සැනසුනු නිවනේ රහත් උත්තමාවියන් සැනසුනු නිවනේ අපිටත් සැනසෙන්න ලැබේවා, සාදු සාදු සාදු!!!

ධර්ම දේශනාවෙන් රැස් වූ සියලු පින් සියලු දෙවියෝ සතුටින් අනුමෝදන් වෙත්වා. සක් දෙවිඳුන්, සතර වරම් දෙවිවරුන්, සෙන්පති දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවියෝ පින් අනුමෝදන්ව, දෙවියෝ දිව්‍ය සැපයෙන් වැඩෙත්වා, සියලු දෙවියෙන්ගේ ආශිර්වාදය, රැකවරණය, ආශිර්වාදය, උපකාරය අප හැමදෙනාට දෙවියෝ නොඅඩුවම සලසා දෙත්වා, දෙවියෝ ද සසර දුකින් අතමිදෙත්වා. සාදු සාදු සාදු!!! මාගේ ගුරුදේවෝත්තම අප හැමදෙනාගේම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට පින් අනුමෝදන්ව, ගුරු දේවයන් වහන්සේ නිදුක් වෙත්වා, නිරෝග වෙත්වා, දීර්ඝායුෂ සම්පත්ති ලබත්වා, ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අද දවසේ ධර්ම දානමය පින්කම සිදු කරන ඒ සුපින්වතුන්ලා බලාපොරොත්තු වෙන ආකාරයෙන් විශේෂයෙන් රැස් වූ පින පින්වත් බුද්ධංගල ආනන්ද ස්වාමීන් වහන්සේට  අනුමෝදන් වෙත්වා, ඒ ස්වාමීන්ද්‍රයන් වහන්සේට නිදුක් නිරෝග සුව, දීර්ඝයුෂ සම්පත්තිය සැලසේවා. බුද්ධංගල ආනන්ද ස්වාමීන් වහන්සේටත් ලංකාවාසී ලෝක වාසී සිල් ගුණදම් සපුරන පූජනීය මහා සඟරුවනටත් පින් අනුමෝදන් වෙලා පින්වතුන් වහන්සේලාට ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයෝ තමන්ගේ නමින් මියපරලොව යන්න යෙදුනු පින්වත් උපාලි ගුණසේකර මඑහත්මාටත්, සරත් මුණසිංහ මහත්මාටත්, නමින් මියගියා වූ සියලු ඥාතීන්ටත් අනුමෝදන් වෙත්වා. අනන්ත සසර පුරාවට මියගිය ඒ සියලු

ඥාතීන් පින් අනුමෝදන්ව, අපගේ ඥාතීන් පරලෝ වශයෙන් සැපයටම පත්වෙත්වා, දුක්ඛිත සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදනාව සිදු කරන්න. අයි.ඒ. ජේමසිරි අල්ගම මහත්මියටත්, වික්‍රමනායක පියාණන්ටත්, මෑණියන්ටත් මේ සියලු පින් අනුමෝදන් වෙලා ඒ දෙමව්පියන්ට නිදුක් නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. විශේෂයෙන් ජූනි මාසෙ 12 වන දිනට උපන්දිනය යෙදුනු පින්වත් රමණී මහත්මියට මේ සියලු පුණ්‍ය ධර්මයන්ගේ ආශීර්වාදය නොඅඩුවම සැලසේවා. ජූලි මාසයේ 21 වන දිනට උපන්දිනය යෙදෙන පින්වත් විජේ මහතාටත්, ජූලි මාසෙ 4 වන දින උපන්දිනය යෙදුනු පින්වත් සරත් මහත්මාටත්, ජූලි මාසෙ 13 වෙනි දිනට උපන්දිනය යෙදුනු පින්වත් ශවින්ද පුතණුවන්ට සහ ජූනි මාසෙ 30 වන දිනට උපන්දිනය යෙදුනු පින්වත් යසිතු පුතණුවන් ඇතුළු ඒ පවුලේ දූදරුවන් ඇතුලු හැමදෙනාට මේ පුණ්‍ය ධර්මයන් අනුමෝදන් වෙත්වා. හැමදෙනාට නිදුක් නිරෝග සුව දීර්ඝායුෂ සැලසේවා. ධර්ම දානය සිදු කරන පින්වත් ශිරාණී, රමණී, සුජාතා කියන ඒ පින්වතුන්ලාටත්, ලාල් සහ තිළාණී යන පින්වතුන්ලා දෙපළටත්, සරත් සහ දීපා යන දෙපළටත්, චම්පා සහ කීර්ති යන දෙපළටත්, මනෝජ් සහ චන්දිමා යන දෙපළටත් මේ හැමදෙනාට පින් අනුමෝදන්ව සියලු දෙනා කරන කියන රැකී රක්ෂා ආදී සියලු කටයුතුත්, දූදරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදියත් සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා. ඒ සියලු දෙනාගේ සියලු කටයුතු සර්වප්‍රකාරයෙන් සාර්ථක කරගෙන ජීවිතය සැපයෙන් සුවයෙන් යුක්තව දියුණු කරගන්න ලැබෙත්වා. විශේෂයෙන් කල්‍යාණමිත්‍ර ආශ්‍රය මුණගැහිච්චි මේ ජීවිතේ තවදුරටත් සුවසේ පින් කරගන්න, සුවසේම දහම් මග දියුණු කරගන්න අවකාශ ලැබෙත්වා. ධර්ම දානය සිදු කලා වූ පින්වතුන්ලාට, ශ්‍රද්ධා මාසික ධර්ම දාන පින්වතුන්ලාට, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ හැමදෙනාට, සුපින්වත් ඔබ සෑම සියලු දෙනාට තෙරුවන් සරණින්, සියලු දෙවියන්ගේ රැකවරණින් මේ රැස් වූ පිනේ ආශිර්වාදයෙන් සියලු යහපතම සැලසේවා, ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍ය අවබෝධයෙන් සැනසෙන්න ඔබ හැමදෙනාටම වාසනාව ලැබේවා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=5INSraFWSHM

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද ධර්ම දේශනාවට දායකත්වයන් දරණු ලබන්නේ ප්‍රංශයේ පදිංචි පින්වත් දියණියක් විසිනුයි. විශ්වවිද්‍යාලයේ අධ්‍යාපන කටයුතු අවසන් වීම නිමිත්තෙන් මේ තාක් කරුණාවෙන් අධ්‍යාපනය ලබාදුන්නා සියලූම ගුරු මෑණිවරුන්ට පියවරුන්ට පින්පෙත් අනුමෝදනාව පිණිස ආධුනිකත්ව පුහුණුවීම සඳහා අවස්ථාව ලබාදුන්න ඒ සියලූම මහත්ම මහත්මීන්ට සෙත් ප්‍රාර්ථනා කිරීම, පුණ්‍යානුමෝදනා කිරීම, තමන්ගේ ආදරණීය දෙමව්පියන්ට, සහෝදර සහෝදරියන්ට සෙත් ප්‍රාර්ථනා කිරීම කියන උදාර අරමුණිනුයි ඒ පින්වන්ත දියණිය විසින් අද දවසේ ධර්ම දානමය පින්කම සිද්ධ කරන්නෙ. පින්වතුනේ ගුණධර්ම වැඩීම පිණිසම ධර්මය දේශනා කරපු ලොව්තුරා භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ නමක්ගේ බුද්ධ ශානය තුළ තව කෙනෙකුට ගුණධර්ම දියුණු කරගන්න බොහෝ සේ උපකාර වන දෙයක් ධර්ම දානය. ධර්මය ශ්‍රවණය කරන කෙනාට ඒ ධර්ම ශ්‍රවණය නිසාමයි ගුණයක් දියුණු කරගන්න ලැබෙන්නෙ. ධර්ම ශ්‍රවණය නිසාමයි පිනක් දහමක් කරගන්න ලැබෙන්නෙ. ධර්ම ශ්‍රවණය නිසාමයි චතුරාර්ය සත්‍යය ගැන අහන්න ලැබෙන්නෙ. ධර්ම ශ්‍රවණය නිසාමයි නිවන් මගත් අහන්න ලැබෙන්නෙ, ඒ නිවන් මග දියුණු කරගන්න අවකාශ ලැබෙන් නෑ. ඒ නිසා සියල්ල ධර්මයෙන් ලැබෙන නිසා, ධර්මය දන් දීම මේ බුද්ධ ශාසනයේ හඳුන්වන්නේ අමෘත දානයයි. අද අමෘත දානය දෙනවා ඒ පින්වතුන් විසින්. බොහෝම සතුටු වෙන්න. එද දේශනාවේදී අපි  ඒ අමා නිවන් දුටු අරහත් තෙරණිවර දේශනා මාලාව අනුපිළිවෙල දේශනාවක් විදයිට අපි කරගෙන යන්නෙ. ඉතින් ඒ දේශනා මාලාවේදී අද කතා කරන්න තියෙන්නෙ අපිට සීසූවචාලා කියන අරහත් තෙරණියගේ චරිතාපදානය. චාලා, උපචාලා, සීසූපචාලා. මේ තුන්දෙනාම අපේ

සාරිපුත්ත මහරහතන් වහන්සේගේ සහෝදරයො. වංගන්ධ කියන බමුණාටත්, සාලි කියන බැමිණියටත් දාව මේ ලෝකයට උපන්න අය. සාරිපුත්ත මහරහතන් වහන්සේගේ ගිහි කල සහෝදරියො තුන් දෙනයි. අපේ සාරිපුත්තයන් වහන්සේ ගෞතම ශාසනයේ පැවිදි වෙලා මේ බුදු සසුනේ උතුම් රහතන් වහන්සේ නමක් බවට පත්වුනා පස්සෙ මේ පවුලේ හැමදොනම පාහේ ධර්මයට යොමුවුනා. ඇත්තෙන්ම සාරිපුත්ත මහරහතන් වහන්සේග් සහෝදරයො තුන්දෙනා, චුනද උපසේන රේවත මේ තුන්දෙනා වහන්සේම රහතන් වහන්සේලා. චාලා උපචාලා සීසූඑචාලා අර්හත් තෙරණිවරු, සායී බැමිණිය, මේ බුද්ධ ශාසනය තුළ උතුම් ආර්ය ශ්‍රාවිකාවක් බවට පත්වුනා. ඉතින් අපි ඉගෙන ගන්නෙ අද සීසූපචාලා තෙරණිය ගැන. අපි මීට පෙර දවස් දෙකේදී චාලා උපචාලා කියන රඅහත් උත්තමාවියක් ගැන ඉගෙන ගත්තා. සීසූපචාලා තෙරණිය කියලා කියන්නෙත් බුද්ධ ශාසනයේ පැවිදි වෙලා ඉතාම කෙටි කලිකින් පුණ්‍ය වාසනා තිබුනු නිසා, අර්හත්වයට පත්වුනා ඒ අරහ්වත්වයට පත්වෙච්චි සීසූඑචාලා තෙරණිය වර්ණනා කිරීමේ ගාථාවකුයි, ආරම්භක කතාව විදියට තියෙන්නෙ. භික්ඛුණී සීල සම්පන්නා ඉන්ද්‍රියෙසු සුසංවතා අධිගච්ඡෙ පදලං සන්තං - අසේජනක මෝජවං, ඒ භික්ෂුණිය හරීම සිල්වත්, ඉඳුරන් සංවර කරගෙනයි ඇය ඉන්නෙ. ස්වභාවයෙන්ම මිහිරි වූ නිවන් රස ඇය සාක්ෂාත් කලා. ඒ නිවන් රසය ගැන කිව්වෙ ස්වභාවයෙන්ම මිහිරි වූ නිවන් රස. අමිහිරි කිසිවක් නිවනේ නැත. නිවන කියලා කියන්නෙ දුක් කරදර පීඩා කිසිවක් නැති තැන. ඉපදීම නැති තැන. නාකි වීම, මරණය, ලෙඩදුක් නැති තැන. ප්‍රියයන් අහිමි වීම අප්‍රියයන් හා එක්වීම නැති තැන. ශෝක වැළපීම් දුක් දෙම්නස් කිසිවක් නැති තැන නිවන. එය ස්වභාවයෙන්ම රසවත්. ස්වභාවයෙන්ම මිහිරි රස ඇති නිවන් රසය තමයි කියනවා ඇය සාක්ෂාත් කලේ. නිවන පසක් කල සීසූඑචාලා තෙරණි මේ සිදුවීම වෙද්දී වැඩ හිටියේ භික්ෂුණී ආරාමයක. ඉතින් එදා ඒ භික්ෂුණිය උදේ වරුවේ සිවුරු පොරවාගෙන පාත්‍රා සිවුරු අරගෙන සැවැත්නුවරට පිණ්ඩපාතෙ වැඩියා. සැවැත් නුවර ගෙපිළිවෙලින් පිණ්ඩපාතෙ වැඩලා ලැබිච්චි දානය වළඳලා දහවල් කාලය ගත කරන්න හිතාගෙන ඇය පිටත් වුනේ අන්ධ වනයට. අන්ධ වනය කියලා කියන්නෙ මුණිවරුන්ගේ වනයනෙ. මුණිවරු, මුණිවරියො එලසමවත් සුවයෙන් වැඩ හිටපු වනාන්තරය අන්ධ වනය. සීසූපචාලා භික්ෂුණියත් සමාපත්ති සුවයෙන් විවේකයෙන් වැඩ ඉන්න දහවල් දානෙන් පස්සෙ වැඩම කලා අන්ධ වනයට. අන්ධ වනය ඇතුලටම ගියා. එක්තරා රුක් සෙවණක දහවල් කාලෙ ගතකිරීම පිණිස පළඟක්

බැඳගෙන අෑ වාඩිවුනා. මේ ඔක්කොම බලාගෙන ඉන්නවා වසවර්ති මාරයා. මාරයා කල්පනා කලා මේ භික්ෂුණිය තනිපංගලමේමයි රුක් සෙවණට ආවෙ. ළඟ පාත වෙන කවුරුත් පේන්නත් නෑ. ස්ත්‍රියාවක් අන්ධ වනය කියන මේ ඝන වනාන්තරයේ තනිව ඉන්නවා. ඇව භය වද්දන්න හොඳ අවස්ථාවක්. ඇව භය කරන්න ඕන, කෙලෙස් බිය ඇයට ඇතිකරවන්න ඕන. මේ භය කියලා කියන්නේ පින්වතුනි මාරයා මේ තැන්වලදී කරන්නෙ කෙලෙස් භීතිය ඇති කරවන එක. කෙලෙස් භීතිය ඇතිකරවනවා කියන්නෙ මොකක්ද, කෙලෙස් වලට ඇදලා දාන එක. යළි සසරට ඇදලා දාන එක. සසර ඇදලා දාන තරම් භයක් මේ ලෝකෙ වෙන නැනෙ. සංසාරෙ යද්දි තමයි ඔක්කොම භය තියෙන්නෙ. සංසාරෙට කෙනෙක් වැටුනා නම්, සසරට වැටිච්ච කෙනාට ඉපදීමේ භය හටගන්නවා. මොකක්ද ඉපදීමේ භය? උපන්නා නම් නාකි වීමේ භය එනවා. අනිත් අයගේ කෙස් පැහිලා තියෙනවා දකිනකොට තමන්ටත් හදවතේ භයක් එනවා, මටත් දැන් තිහ පැන්නා. තිස්පහ පැන්නා. මගෙත් කෙස් පැහේවිදෝ. අනිත් අයගේ දත් ගැලවෙනකොට තමන්ටත් තමන් ගැන හිතෙනවා. මගේ කටෙත් දත් ගැලවේවි, මගේ හමත් වැහැරේවි, මාත් ඔත්පල වේවි, ජරා භය තියෙන්නෙ සසරේ. එක්කෙනා එක්කෙනා ලෙඩ වෙනකොට තමන්ටත් භයක් හටගන්නවා. මටත් කැන්සර් හැදෙයිද, මටත් කොරෝනා හැදෙයිද, මටත් වෙන ලෙඩ හැදෙයිද, මගෙත් සීනි නගියිද, මටත් කොලෙස්ටරෝල් වත් එයිද, මේ ලෙඩවීමේ භය සසරේ තියෙන එකක්. අනිත් අය මැරි මැරී යනකොට තමන්ට භයක් හටගන්නවා. මා කරාත් මරණය ඒවි. මරණ භය සසරේ තියෙන එකක්. ප්‍රියයෝ වෙන් වෙනකොට අනිත් කෙනෙකුගේ දරුවො අනිත් කෙනෙකුගේ ඥාතීන් අහිමි වෙනකොට තමන්ටත් භයක් හටගන්නවා, මං ආදරය කරන අයත් මැරිලා යයිද? ප්‍රියයන් වෙන්වීමේ භය, අප්‍රිය දේට මුහුණ දීමේ භය, සසරේ තියෙන්නෙ. ශෝක භය, වැළපීමේ භය, දුක් දොම්නස් භය හැමදේම සසරේ. සංසාරෙට ඇදලා දැමීම තමයි බිහිසුණුම භය ගැන්වීම, බිහිසුණුම තැතිගැන්වීම කියන්නෙ සසරට ඇදලා දාන එක. මාරයා එන්නෙ සංසාරයට ඇදලා දාන්න. මාරයා වේශයක් මවාගෙන ආවෙ. ඇවිල්ලා අපේ සීසූපචාලා භික්ෂුණියට කියනවා පස්සත්වං භික්ඛුණී පාචණ්ඩං රෝසේතී - ඒ භික්ෂුණී ඔයා කොයි තාපසයාගේ මතවාදයට ද කැමැති, කොයි තාපස මතවාදයටද ඔයා ආසා? න ක්වාහං ආවුසො කස්ස චි පාසං රෝචේනිති - ආයුෂ්මත මට ඔය කොයි තාපසයාගේ මතයවත් ඕන නෑ කිව්වා. ඒ කිව්වෙ සීසූපචාලා භික්ෂුණිය. ඇය කියනවා ඔය කොයි තාපසයාගෙන් මතයවත් මට නම් වැඩක් නෑ. මාරයා

අහනවා, ඒ මොකද? ඒ මොකද කොයි තාපසයාගේ මතවාදයත් රුචි නොකරන්නෙ? හිස මුඩු කරලා නේද ඉන්නෙ? ශ්‍රමණියක් වගේ පෙන්නේ. කවුරු උදෙසා ද ඔය කේශ කලාපය කපලා හිස මුඩු කරගත්තෙ, තාපසයෙකුගේ මතවාද වලට කැමැති නෑ නේද? මොකක්ද මේ මෝඩියෙක් වගේ හැසිරෙන එකේ තේරුම? එහෙම ඇහුවා මාරයා. මාරයාට උවමනා වුනේ මේ පුරුදු කරන මාර්ගය ගැන සැක උපද්දන්න. මෝඩියක් වගේ මේ කැලේ ඇතුලට ඇවිල්ලා ඒ කිසිවක් කරලා ඉන්නෙ කා උදෙසාද? එහෙම නිකං අර තමන් පුරුදු කරන මාර්ගය ගැන සැක උපද්දන්න මාරයා මෙහෙම වචනයක් කිව්වා. එතකොට මේ භික්ෂුණිය කියනවා, මේ බුදු සසුනින් පිට තමයි ඔය තාපසයො ඉන්නෙ. තාපසයො කියලා කියන්නෙ මතවාද වල ගිලිලා ඉන්න පිරිසක්. මතවාද වල ගිලිච්චි ඔවුන්ගේ ධර්ම වලට මං කැමැති නෑ. හැබෑ ධර්මයක් තෝරාගන්න ඒකුන් එකෙක්වත් දක්ෂ නෑ. අපය සක්‍ය කුලේ ජාතො බුද්ධො අප්පටිපුග්ගලො - මාරය, ශාක්‍ය වංශයේ පහළ වී වදාළ ලොව කිසිවෙකුට සමාන නැති බුදුරජාණන් වහන්සේ ඉන්නවා, බුද්ධො අප්පටිපුග්ගලො - මේ ලෝකෙ කිසි කෙනෙකුට සමාන නැති බුදු සමිඳුන් ඉන්නවා නොවැ. සබ්බා බිබූමාර නුදෝ සබ්බත්ථම පරාජිතො- උන්වහන්සේ හැමදෙයක්ම අභිභවනය කලා. මාර සේනා නෙරපා දැම්මා. හැමතැනදීම අපරාජිතයි, දැන් මේ මාරයාටම මරු පැරදූ මුණිඳුන් ගැන අසහාය මුණිඳුන් ගැන, ඒ අසහාය මුණිඳුන්ගේ ශ්‍රාවක දුවක් කියනවා. බුදුරජාණන් වහන්සේ තමයි මේ ලෝකෙ මරු පරදා ජයගත්තෙ. ඒ ජයගත්ත මුණිඳුන්ගේ දුහිතෘ භාවයට පත්වෙච්චි අර්හත් උත්තමාවියක් මාරයා පරාජය කොට තමන්ගේ පියරජාණන් ගැන කියන අපූරුව, හරි ලස්සනයි. බුදුරජාණන් වහන්සේ ගැන කියනවා, කිසිවෙකුටවත් සමාන නැති බුදුරජාණන් වහන්සේ හැමදේම අභිභවනය කලා, මාරයාගේ සේනා පරාජයට පත්කලා. බුදුරජාණන් වහන්සේටයි මාරය කියන්නෙ හැමතැනදීම අපරාජිත කෙනා කියලා. සබ්බත්ථ මුත්තො අසිත්තො සබ්බං පස්සති චක්ඛුමා - මගේ බුදුරජාණන් වහන්සේ හැමදේකින්ම නිදහස් වුනා මාරය. ඒ බුදුරජාණන් වහන්සේ කෙලෙස් රහිතයි. දහම් ඇස් ඇති ඒ බුදුසමිඳුන්ට හැමදෙයක්ම පේනවා. මේ ලෝකෙ හැමදේම දකින කෙනා කියලා යමෙකුට කියනවා නම් කියන්න තියෙන්නෙ බුදුරජාණන් වහන්සේටයි. ලෝකයේ ඇස කියලා යමෙකුට කියනවා නම් කියන්න තියෙන්නෙ අපි සරණ ගියපු බුදුරජාණන් වහන්සේටයි. චක්ඛුමා කියනවා නම් කියන්න තියෙන්නෙ බුදුරජාණන් වහන්සේටයි. ඒ භාග්‍යවතුන් වහන්සේ

අතීත, අනාගත, වර්තමාන කියන මේ ලෝකය තුළ නොදුටු කිසිවක් නැත්තේය. නවිඤ්ඤාණම ජානි තබ්බං, අවබෝධ නොකළ කිසිවක් ද නැත්තේය. සබ්බං අභිඤ්ඤාය යදත්ථි නේයං - ලෝකයේ තතු ඒ අයුරින්ම අවබෝධ කලෝ වනාහි අපගේ බුදුරජාණන් වහන්සේමය. ඒ නිසා බුදුරජාණන් වහන්සේට, ඒ තථාගතයන් වහන්සේට, තථාගතො තේන සමන්ත චක්ඛු, සියල්ල දකිනා ඇස කියා මේ ලෝකයේ කියන්නේය. බුදුරජාණන් වහන්සේ තමයි එහෙම කිව්වෙ. සබ්බ කම්මක්කයං පත්තො විමුත්තො උපධිසංඛයේ - මාරය උන්වහන්සේ හැම කර්මයක්ම ක්ෂය කරලා නිවනට පත්වුනා. දුකෙන් නිදහස් වුනා. කෙලෙස් ගෙවලා දැම්මා. සෝ මය්හං භගවා සත්තා තස්ස රෝචේමී සාසනංති - මාරය ඒ භාග්‍යවතුන් වහන්සේ තමයි මාගේ ශාස්තෘන් වහන්සේ. බලන්න බුදුරජාණන් වහන්සේ හඳුන්වපු විදිය පින්වතුනි. ශාස්තෘත්තවය, ශාස්තෘන් වහන්සේ හඳුන්වන්නෙ මේ කවරෙක්ද, තමන්ම ජයගත්ත, තමාගේ ජීවිතය සම්පූර්ණයෙන්ම ජයගත්ත අර්හත් මුණිවරියක්. රහතන් වහන්සේලා රහත් මුණිවරු ඊළඟට රහත් මුණිවරියෝ සිංහ නාදයක් කරනවා. අපි මේ දේශනාමාලාවේ නිතර සිහිපත් කලානෙ ඒ සිංහනාදය. මොකක්ද ඒ සිංහ නාදය? බුද්ධා ලෝකෙ අනුත්තරා. ලෝකෙ අනුත්තරීය උත්තමයන් වහන්සේ, ලෝකෙ ශ්‍රේෂ්ඨම කෙනා, ලෝකෙ ඉහළින්ම ඉන්න කෙනා බුදුරජාණන් වහන්සේමයි කියලා සිංහ නාද කරන්නෙ ලෝකයට රහතුන්. රහත් උත්තමාවියන්. හැබෑ රහතුන් අඳුනාගැනීම පිණිසනෙ අපි මේ දේශනා මාලාව දැන් කාලයක් තිස්සෙ ඔබට කරන්නෙ. මොකද හොර රහතුන් හැමතැනම. ඒ හොර රහතෙක් පස්සේ අහුවෙලා කෙනෙකුගේ ජීවිතය මුලාවට පත්වුනොත් අපරාදි, ඒ නිසයි අපි හැබෑ රහතුන් ගැන කාලයක් තිස්සෙ ඔබට කියලා දෙන්නෙ. හැබෑ රහතුන්, හැබෑ රහත් උත්තමාවියන් ගැන. හැබැයි රහතන් වහන්සේලාත්, රහත් තෙරණිවරුත් සිංහනාද කලේ බුදුරජාණන් වහන්සේ අනුත්තරයි කියලා, ඒක හොඳට පේනවා මේ දේශනාවෙනුත්. සෝ මය්හං භගවා සත්තා - මාරය මේ බුදුරජාණන් වහන්සේ තමයි මාගේ ශාස්තෘන් වහන්සේ. මං ඔය එක එක තාපසයාගෙ මතයට නෙවෙයි ප්‍රිය කරන්නෙ. මං ප්‍රිය කරන්නෙ ඒ බුදුරජාණන් වහන්සේගේ ශාසනයටයි කියලා සීසූපචාලා රහත් තෙරණි පිළිතුරු දුන්නා. එතකොට මාරයා කියනවා තව්තිසා, යාම, තුසිත, නිම්මානරති, පරනිම්මිත වසවර්තිය ආදී දිව්‍ය ලෝකෙ තියෙන්නෙ, ඒවාගෙ ඉන්නවානෙ දෙවිවරු. ඔයා ඉස්සර හිටියේත් ඒ දිව්‍ය ලෝක වලනෙ. එතකොට මාරයා මේ කලින් කතාවකුත් කියනවා. මේ

සීසූපචාලා භික්ෂුණිය කලිනුත් හිටියෙ ඒ දිව්‍යලෝක වල කියනවා. ඉතින් භික්ෂුණිය ඔයාට පුලුවන්නෙ ඒ ලෝකවලම හිත පිහිටුවාගන්න, භික්ෂුණිය වදාළා ඒයි මාරය, තව්තිසා, යාම, තුසිත, නිම්මාණරතිය, පරනිම්මිත වසවර්තිය ආදී ලෝකවල දෙවිවරු ඉන්නවා තමයි, හැබැයි ඒ දෙවිවරු ගැන ගත්තහම ඒ දෙවිවරුත් මෙන්න මේ ස්වභාවයෙන් යුක්තයි කියනවා. ඒ දෙවිවරු එහෙම හිටියාට කාලං කාලං භවා භවං සක්කායස්මිං පුරක්ඛතං - ඔය හැම දෙවි කෙනෙක්ම කලින් කලට, භවයෙන් භවයට යන්නෙ මේ පඤ්ච උපාදානස්කන්ධයම පෙරටු කරගෙන. අවීතිවත්තා සක්කායං ජාති මරණ සාරිනො - ඔවුන්ට මේ පඤ්චුපාදානස්කන්ධය ඉක්මවා යන්න පුලුවන්කමක් නෑ බුදු කෙනෙකුගේ ධර්මයක් නැතිව. ඔවුන් ගමන් කරන්නේ ඉපදෙන මැරෙන සංසාරේ නොවැ කිව්වා. ඉපදෙන මැරෙන සංසාරෙන් ඉවත් වෙච්චි, ඒ සසර ගමන අවසන් කරපු උත්තමාවියක් මේ කතා කරන්නෙ. ඒ උත්තමාවිය කියනවා මාරය, දිව්‍යලෝක නම් තියෙනවා තමයි, ඒ දිව්‍යලෝකවල දෙවිවරුත් ඉන්නවා තමයි, ඒ හැමෝම කතා කරන්නෙ සක්කාය පෙරටු කරගෙන සසරේ යන එකනෙ. සබ්බො ආදිට්ඨිතො ලෝකො සබ්බො ලෝකො පදීතිතො සබ්බො පජ්ජලිතො ලෝකෙ සබ්බො ලෝකො පකම්පිතො - මාරය, ලෝකය ගැන ඔබ දැනගත යුත්තෙ මේ විදියට. සබ්බො ආදිට්ඨිතො ලෝකො - මේ ලෝකයම කෙලෙස් වලින් ගිනි ඇවිලිලා තියෙන්නෙ. සබ්බො ලෝකො පදිට්ඨිතො - කෙලෙස් ගින්නෙන් ලෝකය හැමතිස්සෙම දුම්දානවා. සබ්බො පජ්ජලිතො ලෝකො - ලෝකය කෙලෙස් නිසා කෙලෙස් ගිනි දැල් වලින් වෙලි වෙලී තියෙන්නෙ. සබ්බො ලෝකො පකම්පිතො, කෙලෙස් ඉදිරියේ හැම ලෝකයාම කම්පා වෙනවා. මේ ලෝකය කියලා කිව්වෙ මොකක්ද, බුදුරජාණන් වහන්සේගේ ධර්මය තුළ ලෝකය කියලා කියන්නෙ කාරණා හයකට. බුදුරජාණන් වහන්සේ එක අවස්ථාවක වදාළා ලෝකය, ලෝකය කියලා කියන්නෙ ඇයි. ලුජ්ජති, නැසී වැනසී යන නිසා. වැනසෙන ස්වභාව කොට ඇති නිසා ලෝකය කියා කියයි. කුමක්ද වැනසීම ස්වභාව කොට ඇති ලෝකය, ඇස යනු ලෝකයයි, කණ යනු ලෝකයයි, නාසය ලෝකයයි, දිව කියන්නෙ ලෝකය, කය කියන්නෙ ලෝකය, මනස කියන්නෙ ලෝකය. ලෝකය ලෝකය කියලා කතා කරන ව්‍යවහාරය තුළ අපිට තියෙන්නෙ පින්වතුනේ වෙනම දැක්මක්. සුද්දාගේ විද්‍යාව ඉගෙන ගෙන අපි ලෝකය කියලා හිතින් මවාගත්ත ගමන් අපිට මැවෙන්නේ බෝල ගොඩක්. අපි ලෝක ලෝක කියලා ඉගෙන ගත්තො නොයෙක් ග්‍රහවස්තු. අපිට උගන්නපු ලෝක යටතේ අපිට තිබුනේ ග්‍රහවස්තු

ටිකක්, අපි අඟහරු ග්‍රහයා කියයි, සෙනසුරු ග්‍රහයා කියයි, සෙනසුරු කියයි, බ්‍රහස්තිය කියයි, ප්ලුටෝය කියයි, ඕවා තමයි අපිට ලෝක විදියට මතක් වෙන්නෙ. නමුත් ලෝකය කියන එක සියල්ල දන්නා, සියල්ල දක්නා තථාගත අරහත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ හරි ලස්සනට අර්ථ කතනය කලා, ලෝකය කියලා කියන්නෙ වෙන මොකුත් නෙවෙයි, ඇහැ. ඇහැ කියන එක මේ ලෝකයේ නොතිබ්බා නම් යම් කෙනෙකුට ඇහැ හටනොගත්තා නම් මෙහි කොච්චර රූප තිබුනත් රූපයත් එක්ක සම්බන්ධයක් ඔහුට නෑ. කණ හට නොගත්තා නම් ශබ්ද කියන එකත් එක්ක සම්බන්ධයක් නෑ. නාසය කියන එක හටනොගත්තා නම් ගඳ සුවඳත් එක්ක ප්‍රශ්නයක් නෑ. දිව නොතිබ්බා නම් රසත් එක්ක සම්බන්ධයක් නෑ. කය නොතිබ්බා නම් මෘදු හෝ වේවා කර්කශ හෝ වේවා පහසත් එක්ක සම්බන්ධයක් නෑ. හිත හටනොගත්තා නම් සිතුවිලිත් එක්ක, අරමුණුත් එක්ක සම්බන්ධයක්, නෑ. මේ ලෝකය මොකක්ද, මේ ආයතන හය. මේ ආයතන හය ගැන භාග්‍යවතුන් වහන්සේ වදාලා, සබ්බං භික්ඛවේ ආදිත්තං, මහණෙනි ඔය හයම ඇවිලිලා තියෙන්නෙ. හයම ඇවිලිලා, ඇහැත් ඇවිලිලා, කණත් ඇවිලිලා නාසෙත් ඇවිලිලා, දිවත් ඇවිවිලා, කයත් ඇවිලිලා, මනසත් ඇවිල්ලා. ඇහැට පේන රූපත් ඇවිලිලා, විඤ්ඤාණත් ඇවිලිලා ස්පර්ශත් ඇවිලිලා, විඳීමුත් ඇවිලිලා, ඔක්කොම ගින්නක තියෙනවා. ඒ මොනාද ඒ ගිනි? ආදිත්තං රාගග්ගිනා - මහණෙනි මේ ගින්න කියලා කියන්නෙ රාගයටයි. මේ ලෝකයේ ඇවිලිච්චි ගින්න රාග ගින්න. රාගයෙන් ඇවිලිලා. ඒ රාග ගින්න කියන ගින්නෙන් මේ සසර ගමන යන සත්වයා නිදහස් නෑ. ඇවිලිලා. ආදිත්තං දෝසග්ගිනා - ද්වේෂය කියන ගින්නෙන් ඇවිලිලා. ආදිත්තං මෝහග්ගිනා - මුලාව කියන ගින්නෙන් ඇවිලිලා. බුදුරජාණන් වහන්සේ දේශනා කලා, ආදිත්තං ජාතියා ජරාය මරණේන සෝකේන පරිදේවේන දුක්ඛේන දෝමනස්සේන උපයාසාති වදාමි - මහණෙනි ඉපදීම නම් වූ ගින්නෙන්, වයසට යාම නම් වූ ගින්නෙන්, මරණය නම් වූ ගින්නෙන්, ශෝක ගින්නෙන්, වැළපීම් ගින්නෙන්, දුක් ගින්නෙන්, දොම්නස් ගින්නෙන්, සුසුම් හෙළීම් ගින්නෙන් කියන මේ එකොළොස් ආකාර ගිනි වලින් මේ ජීවිතේ හැමතිස්සේ ඇවිලිලා කියනවා තියෙන්නෙ. කොහේ ගියත් ගිනි. මනුස්ස ලෝකෙත් ගිනි, දෙව්ලොවත් ගිනි, බඹලොවත් ගිනි, හැමතැනම ගිනි. ඒ නිසා තමයි මේ අර්හත් උත්තමාවී කිව්වේ මේ ලෝකෙම කෙලෙස් වලින් ගිනි ඇවිලිලා. බලන්න පින්වතුනි කෙලෙස් පීඩා කියන එක මේ සාංසාරික ගමනේ යන සත්වයා උරුම කරගත්ත එකක්නෙ. කෙලෙසින් තමයි ගුටිකන්නෙ. සරාගි සිතුවිලි වලින් රාගයට අහුවෙලා

කොච්චර විඳවනවද. රාගයට අහුවීම නිසා මේ ලෝකයේ සත්වයෝ කොච්චර විඳවිල්ලක් විඳවනවාද. සාමාන්‍යයෙන් අපි ගත්තොත් එහෙම මේ මනුස්ස ලෝකයේ කතාපුවත්නෙ අපිට අහන්න ලැබෙන්නෙ. මේ මනුස්ස ලෝකෙ ඇතුලේ ඔය රාගයට අහුවෙලා කොච්චර ප්‍රශ්න තියෙනවාද. ඔය රාගය නිසාම තමයි අනියම් සම්බන්ධතා ආදී මහා අරගල, රාගය පාලනයකින් තොර නිසා. ඒ පාලනයකින් තොර රාගය හේතු කරගෙන අනියම් සම්බන්ධතා, මිනීමැරුම්, කලකෝලහාල, ඔක්කොම හටගන්නවා. රාග ගිනි. ද්වේෂය නිසා, හදිසි කෝපය නිසා, මහා දරුණු ගිනි හටගන්නවා. ඊළඟට මුලාව නිසා, මෝහය නිසා, දැන් මෝහයත් එක්කනෙ ඔය ඔක්කොම ප්‍රශ්න, අන්තවාදී ප්‍රශ්න, ත්‍රස්තවාදීන්ගේ ප්‍රශ්න, ජාතිවාදීන්ගේ ප්‍රශ්න මේ ඔක්කොම මෝහයනෙ. මෝහය නිසා අරගල. හැමතැනම අරගල තියෙන්නෙ කෙලෙස් හින්දානෙ. කෙලෙස් හින්දා එහෙන් ගුටිකනවා. කෙලෙස් හින්දා තමන් තමන්ගේ ජීවිතයේ අභ්‍යන්තරයෙන් ගුටි කනවා. රාගය ඇවිස්සුනාම රාග ගින්නෙන් දැවෙනවා. ද්වේෂය ඇවිස්සුනාටම ද්වේෂ ගින්නෙන් දැවෙනවා. මෝහය ඇවිස්සුනාම මෝහ ගින්නෙන් දැවෙනවා. ඊළඟට ඒක තමන්ට විතරක් ප්‍රශ්නෙකුත් නෙවෙයි. බාහිරටත් ඒ ප්‍රශ්නෙ යනවා. රාගයෙන් ඇවිස්සිච්ච පුද්ගලයො සරාගයෙන් කරන ඒවා නිසා බාහිරත් විඳවනවා. ද්වේෂයෙන් ඇවිලිච්චි මිනිස්සු ද්වේෂය නිසා කරන ඒවගෙන් බාහිරත් මිනිස්සු විඳවනවා. මෝහය ඇවිලිච්චි ඇයො මෝහය මුල් කරගෙන කරන ඒවා නිසා බාහිර මිනිස්සුන්ටත් ප්‍රශ්න. දැන් ඔය පාස්කු ප්‍රහාර ආදිය ගත්තම බලන්න, මෝහයෙන් මුලා වෙච්චි මෝඩයො පිරිසක් හින්දා අහිංසකයො කීදෙනෙක් ජීවිත වලින් වන්දි ගෙව්වාද. ඒ මෝඩයො මෝහ ගින්නෙන් ගිනි නොගත්තා නම් අද ඒ අහිංසකයො ටික තාම ජීවත් වෙනවා. මෝඩයො මෝහයෙන් මුලා වෙලා මෝඩකම් කරනකොට ඒ මෝඩකමින් ඒ මෝඩයාත් වැනසෙනවා. අහිංසකයොත් වැනසෙනවා. එතකොට මේ එක ගින්නක්. ඊළඟ ගින්න තමන්ගේ ජීවිතයේ උපන්නාට පස්සෙ තියෙන ඔක්කොම අරගල. ඉපදීමේ ගිනි. ඉපදීමේ ගින්න කියන එක ගැන හිතලා බලන්න පින්වතුනි. නොයෙක් විදියේ උපත් ගැන අපිට අහන්න ලැබෙන් නැද්ද. සමහර අය උපදිනවා, දෙන්නෙක් එකට බද්ධ වෙලා. මහා විඳවිල්ලක්. සමහර අය උපදිනකොටම ඒ අයට නොයෙක් නොයෙක් ශාරීරික ආබාධ. එක්කො ශාරීරික විකෘති. නොයෙක් ප්‍රශ්න. ඉපදීමේ ගිනි. ඉපදීමේ ගින්න කියන එකෙන් කොච්චර විඳවනවාද. සමහර දරු පැටව් උපදිනවා, උපදිනකොටම බරපතල ලෙඩ. ඒ බරපතල ලෙඩේ නිසා එයා ගොඩාක්

අමාරුවෙන්, ශරීරය පුරාම බට ගහගෙන. ඉපදීමේ ගින්න. නාකිවීමේ ගිනි අපිට හොඳට පේන්න තියෙනවා, ඒක විස්තර නොකලත් තේරුම් ගන්න පුලුවන්. නාකිවීමේ ගින්න. ලෙඩවීමේ ගිනි, ලෙඩවීමේ ගිනි බලන්න අපි යන්න ඕන, බරපතල රෝගීන් ඉන්න වාට්ටුවට. කොච්චර විඳවනවාද, ලෙඩවීමේ ගින්න, මේ කාලෙ ඒක අපිට හොඳට දකින්න පුලුවන්නෙ. ඇහැට නොපෙනෙන වෛරසයක්, හැමතැනම පැතිරෙනවා. ඒ පැතිරෙද්දී මිනිස්සු අන්ත අසරණ වෙනවා. ඒ ලෙඩේ, ඒ රෝගය, ඒ වෛරසය මිනිස්සුත් එක්ක සෙල්ලම් කරනවා. ප්‍රියමනාප ඥාතීන් අහිමි වෙවී අහිමි වෙවී යනවා. මේක තමයි ව්‍යාධි ගින්න. ඊළඟට මරණයේ ගිනි. ඕවා ඔක්කොම අස්සේ අපි හැමදෙනාගේම සන්තාප, ඇඬුම්, කඳුළු මේ හැමදෙයක්ම ගින්නක්. සැනසිල්ලක් නෙවෙයිනෙ. ශෝකය කියන්නෙ ගින්නක්. වැළපීම කියන්නෙ ගින්නක්. දුක් දොම්නස් කියන්නෙ ගිනි. සුසුම් හෙළ හෙළ ඇද ඇද ඉන්න වෙනවා කියන්නෙ ගිනි. ඔක්කොම ගිනි. මේ ගිනි ඇවිලුනේ ඇසටයි. ඇස නම් වූ ලෝකයටයි. මේ ගිනි ඇවිලුනේ කණ නම් වූ ලෝකයටයි. මේ ගිනි ඇවිලුනේ නාසය නම් වූ ලෝකයටයි. දිව නම් වූ ලෝකයටයි, කය නම් වූ ලෝකයටයි, හිත නම් වූ ලෝකයටයි. සමහර ප්‍රශ්න හටගන්නකොට හිතෙන්නෙ නැද්ද පින්වතුනේ මේවා දකින්න අපේ ඇස් පව් කරලා තිබුනාද, අපිට එහෙම හිතෙන් නැද්ද. ඇස් දෙක නොතිබ්බා නම් ඒ දේවල් අපිට පේන් නෑ. එහෙනම් මේ ගිනි අරගෙන එන්නෙ කොතනින්ද, ඇස් දෙකෙන්. ගිනි අරගෙන එන්නේ කන් දෙකෙන්. ගිනි අරගෙන එන්නෙ නාසයෙන්, දිවෙන්, කයෙන්, මනසෙන්. මේවා තමයි ගිනිගත්ත දේවල්. බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ ගින්න අඳුනගන්න ඒන. යම් කිසි නුවණැති කෙනෙක් මේ ගින්න, ගින්නක් කියලා අඳුනගත්තා නම් ඒ තුළින්මයි ඒ කෙනා නිදහස් වෙන්නෙ. නිදහස් වෙන්න මොකක්ද කළ යුත්තේ. එක අවස්ථාවකදී දෙවි කෙනෙක් බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා ප්‍රශ්නයක් ඇහුවා. ඒ දෙවියා ප්‍රශ්නය විදියට ඉදිරිපත් කලේ මෙහෙම එකක්. අන්තො ජටා බහි ජටා ජටාය ජටිතා පජා තංතං ගෝතම පුච්ඡාමි කතංසු විජටේ ජටං - කියනවා ස්වාමීනී අභ්‍යන්තරවත් ගැට, බාහිරත් ගැට. මේ ප්‍රජාවම ගැටෙන් ගැටේ වෙලී සිටී. ස්වාමීනී ගෞතමයන් වහන්ස, මං ඔබ වහන්සේගෙන් අහන්නෙ ගැට ලිහාගන්නෙ කොහොමද, එතකොට මේක ඇහුවේ කවුද, දෙවියෙක්. දෙවියෙක් තමයි කිව්වෙ ඇතුලෙත් ගැටය, පිටත් ගැටය කියලා. මේ ගැට කියලා කිව්වෙ කෙලෙස් ගැට. දෙවියන්ටත් ඇතුලෙත් ගැට, පිටත් ගැට නම් අපේ ගැන කවර කතාද. ඒ අයටත් ගැට. මේ ගැට වලින් නිදහස් වෙන්න

කැමැතියි, මං කොහොමද නිදහස් වෙන්නේ කියලා  මේ දෙවියා ඇහුවා. කාගෙන්ද ඇහුවේ, දෙවියන්ගේත් මිනිස්සුන්ගේත් ශාස්තෘන් වහන්සේ වන සත්තා දේවමනුස්සානං වූ අපගේ භාග්‍යවතුන් වහන්සේගෙන් අහනවා ගෞතමයන් වහන්ස, මේ ගැට ලෙහාගන්න පිළිවෙල මට කියන්න. බුදුරජාණන් වහන්සේ දේශනා කලා, සීලයේ පතිට්ඨාය නරොසපඤ්ඤො, නුවණැති මනුස්සයෙක් සීලයක පිහිටලා චිත්තං ච පඤ්ඤං ච භාවයං - සිතත් ප්‍රඥාවත් ධර්මය තුළ වඩන්නේය. නුවණැති මනුස්සයෙක් සීලයක් තුළ පිහිටලා සීලයත් ප්‍රඥාවත් වඩනකොට ආතාපි නිපකො භික්ඛු - කෙලෙස් තවන වීර්යයකින් වාසය කරන තැනට සුදුසු ආකාරයෙන් නුවණ මෙහෙයවාගන්න දක්ෂ කෙනා, සො ඉමං විජටේ ජටං - මේ කෙලෙස් ගැට සියල්ලම ලිහා දමන්නේය. එහෙමයි භාග්‍යවතුන් වහන්සේ දේශනා කලේ. ඉතින් කෙලෙස් ගැටේ ලිහන්න නම් තියෙන්නෙ පින්වතුනේ සීලයේ පිහිටන එක, සමාධිය දියුණු කරන එක, ප්‍රඥාව දියුණු කරන එක, ඒ සඳහා වීර්යයෙන් සිහිනුවණින්, කැපවීමෙන් වාසය කරන එක. සරලවම කිව්වොත් ආර්ය අෂ්ටාංගික මාර්ගය මැනැවින් දියුණු කරන එක. සීල සමාධි ප්‍රඥා කියලා කියන්නෙ නිවන් මග. ආර්ය අෂ්ටාංගික මාර්ගයනෙ. ආර්ය අෂ්ටාංගික මාර්ගය තමයි මේ ලෝකෙ කියන්නෙ අනුත්තර සංගාම විජය - කෙලෙස් යුද්ධය ජයගන්නා අනුත්තරීය දෙය, ඒ තමයි ආර්ය අෂ්ටාංගික මාර්ගය. ආර්ය අෂ්ටාංගික මාර්ගය ස්කන්ධ තුනකින් යුක්තයි. සීලස්කන්ධ, සමාධිස්කන්ධ, ප්‍රඥා ස්කන්ධ. සීලස්කන්ධය යටතේ අංග තුනක් ගැනෙනවා සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව. ඔය තමයි සීලස්කන්ධය. සමාධි ස්කන්ධය යටතේ කාරණා තුනක් ගැනෙනවා සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි. ප්‍රඥා ස්කන්ධය යටතේ කරුණු දෙකක් යෙදෙනවා සම්මා දිට්ඨි සහ සම්මා සංකල්ප කියන දෙක. එතකොට පින්වතුනේ සාමාන්‍යයෙන් කෙනෙකුට බැලුවොත් එහෙම නිකං හිතෙනවා ආර්ය අෂ්ටාංගික මාර්ගය ගැන කියන පිළිවෙලත් එක්ක නිකං ආර්ය අෂ්ටාංගික මාර්ගය තියෙන්නෙ ප්‍රඥා සීල, සමාධි වශයෙන් නොවැ කියලා. නෑ ඒක එහෙම නෙවෙයි තේරුම් ගත යුත්තේ. නුවණ තියෙන මනුස්සයෙක් තමයි නුවණ මුල් කරගෙන බුදු කෙනෙකුගේ බණ පදයක් ඇහෙනකොට චතුරාර්ය සත්‍යය ගැන යම් දැක්මක් ඇති කරගන්නෙ. චතුරාර්ය සත්‍යය ගැන අහන්න ලැබෙනකොට නුවණක් තියෙන කෙනාට තමයි හිත පහදින්නෙ, එතකොට ප්‍රඥාව තියෙන්නම ඕන. ඒ ප්‍රඥාව මුල් කරගෙන තමයි චතුරාර්ය සත්‍යය දැක්මට කෙනෙක් එන්නෙ. චතුරාර්ය සත්‍යය දැක්මට එනවා කියලා කියන්නෙ, දුක කියන්නෙ ආර්ය

සත්‍යයක්. දුකේ හට ගැනීම ආර්ය සත්‍යයක්. දුක්ඛ නිරෝධය ආර්ය සත්‍යයක්. දුක්ඛ නිරෝධ ගාමිනී පටිපදාව කියලා කියන්නෙ ආර්ය සත්‍යයක් කියලා දැක්මට එන්නෙ නුවණක් තියෙන කෙනෙක්. නුවණක් නැති මෝඩ තැනැත්තාට ඒක සමීප වෙන් නෑනෙ. නුවණින් තමයි ඒක කරන්නෙ. නුවණින් ඒක කලාට පස්සෙ තමයි ඒ කෙනා මේ සියලු දුක් වලින් නිදහස් වීම පිණිස, දුකේ හටගැනීම ප්‍රහාණය කිරීම පිණිස දුක්ඛ සමුදය වන නිවන සාක්ෂාත් කිරීම පිණිස ආර්ය අෂ්ටාංගික මාර්ගය වන නිවන් මග වඩන්න පටන් ගන්නෙ. එතකොට ඒ සඳහා ප්‍රඥාවක් තියෙන්න ඕන. හැබැයි ඔහු වඩන්න පටන් ගන්නෙ මුලින්ම සීලයෙන්. සීලය හොඳට පිරිසිදු කරගන්නවා. සීලය පිරිසිදුව හදාගන්න කෙනෙකුට සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව කියන තුන හදාගන්න කෙනෙකුට වෙන් කරලා අඳුනගන්න හැකියාවක් තියෙන්න ඕන මේ තමයි සම්මා කම්මන්ත, මේවා මිත්‍යා කම්මන්ත. මේ සම්මා වාචා, මේ මිත්‍යා වාචා කියලා වෙන් කරගැනීම, ඒක කරගන්නත් ප්‍රඥාව ඕන. ඒ නිසා හැමතිස්සෙම ප්‍රඥාව පෙරට එනවා. ප්‍රඥාව පෙරට අරගෙන තමයි සීල සමාධි ප්‍රඥා දියුණු කරන්න තියෙන්නෙ. මුලින්ම සීලය දියුණු කරගෙන සීලයෙන් ඇතිකරගන්නා පිරිසිදු ජීවිතෙත් එක්ක විපිලිසර නැති හිතකින් සමාධියක් උපද්දන්න පුලුවන්. විපිලිසර හිතකින් කවදාවත් සමාධියක් උපද්දන්න බෑ. විපිලිසර නැති හිතින් සමාධිය උපද්දන්න පුලුවන්. සමාධිය ඇති වූ කල්හි, සමාධිමත් හිතේ පුලුවන් යම් කුසලයක් අඛණ්ඩව මෙනෙහි කරන්න. අන්න ඒ කෙනාට ප්‍රඥාව උපදිනවා, චතුරාර්ය සත්‍යය සම්පූර්ණයෙන්ම අවබෝධ කරන්න අවකාශ ලැබෙනවා. ඉතින් ඒ නිසා මේක හරියට තේරුම් ගන්න ඕන දෙයක් අපි. මේ විදියට තමයි නිවන් මග දියුණු කරන්නෙ, නිවන් මග දියුණු කරගත්ත කෙනා තමයි මේ ඇවිලිච්චි ලෝකයෙන්, මේ දුම් දමන ලෝකයෙන්, මේ කෙලෙස් ගිනිදැල් විහිදෙන ලෝකෙයෙන්, කෙලෙස් වලින් කම්පා වෙවී ඉන්න ලෝකයෙන් නිදහස් වෙන්නෙ. ඉතින් එහෙම නිදහස් වෙච්චි සීසූපචාලා කියන අර්හත් උත්තමාවිය මාරයාට කියනවා මෙහෙම. අකම්පියං අතුලියං පපුතුජ්ජන සේවිතං බුද්ධෝච ධම්මං දේසේසි තත්ථ මෙ නිරතො මනො - මාරය මේ කම්පා වෙන ලෝකයේ, ගිනි ගන්න ලෝකයේ කෙලෙස් දුම් වලින් හැමතිස්සේම පිරී පවතින ලෝකයේ මගේ බුදුරජාණන් වහන්සේ කියන්නෙ අකම්පියං - අකම්පිත කෙනෙක්. අසහාය කෙනෙක් - අතුලියං. අතුලිය කියලා කිව්වෙ උන්වහන්සේව සමාන කරන්න පුලුවන් වෙන කෙනෙක් නෑ. උන්වහන්සේ ඇසුරු කරන්නේ පෘථග්ජන නොවන සත්පුරුෂයො - අපෘථග්ජන සේවිතං. ඒ බුදුරජාණන් වහන්සේ තමයි මේ

ලස්සන ධර්මය දේශනා කලේ. මගේ මනසේ නිතර පවතින්නේ ඒ ධර්මයයි. බුදුරජාණන් වහන්සේ වදාළ ධර්මය තමයි මගේ මනසේ හැමතිස්සේම පවතින්නෙ. තස්සාහං වචනං සුත්වා විහරිං සාසනේ රතා තිස්සුවිද්‍යා අනුප්පත්තා කතං බුද්ධස්ස සාසනං - මාරය, උන්වහන්සේගෙන් උතුම් වචන අහලා දැනගත්තා මං. බුද්ධ ශාසනයේ මම ඇලී වාසය කලා. මාත් ත්‍රිවිද්‍යාව ලබාගත්තා. ත්‍රිවිද්‍යාව කියලා කියන්නෙ මෝහයෙන් මුලාවෙන් අවිද්‍යාවෙන් මිදිච්චි මුණිවරු, මුණිවරියො සාක්ෂාත් කරපු දේ. ඇත්තටම ඒවාට තමයි පින්වතුනි හැබෑම විද්‍යා කියලා කියන්නෙ. පළවෙනි විද්‍යාව තමයි පුබ්බෙනිවාසානුස්සති ඥාණය - පෙර ජීවිත ගතකරනා පිළිවෙල දකිනා නුවණ. දෙවෙනි විද්‍යාව චුතූපපාත ඥාණය - සත්වයෝ කර්මානුරූපව චුතවෙන උපදින විදිය දකිනා නුවණ. තුන්වෙනි විද්‍යාවට කියනවා ආසවක්ඛය ඥාණය - තමන්ගේ සන්තානයේ කෙලෙස් කසට කිසිවක් නැත්තේය කියලා දකින නුවණ. මේවා ඔක්කොම උපදවාගත්තෙ බුද්ධ ශාසනය තුළින්. ත්‍රිවිද්‍යාව ලබාගත්තා, බුදුසසුන සම්පූර්ණ කලා. සබ්බත්ථ විහතා නන්දි - මාරය හැමදෙයක්ම ගැන තියෙන තණ්හාව මම නැති කරලා දැම්මෙ කෙනෙක්. තමොක්ඛන්ධො පධාලිතො - මෝහාන්ධකාරය, අවිද්‍යා කෙලෙස් කඳ මං සිඳලා බිඳලා දැම්මා. ඒවං ජානාහි පාපිම නිහතො ත්වසි අන්තම - මාරය ඔහේ මාගැන දැනගන්න ඔය පිළිවෙලටයි. ඔය කාරණයෙදින් නැසුනේ කම්පාවුනේ බියට පත්වුනේ මම නොවෙයි ඔහේයි කිව්වා. ඔය කාරණයේදී නැසුනේ, දැන් මාරයා මේ සීසූපචාලා තෙරණිය ළඟට ආවෙ සීසූපචාලා තෙරණියව බියවද්දන්නනෙ. ඇත්තටම බිය ජනක අරමුණ ආවෙ කා කරාද, මාරයා කරා. ලොමුඩැහැගැනීම පැමිණියේ කා කරාද. මාරයා කරා. සලිත වීම පැමිණියේ කා කරාද. මාරයා කරා. ඇයි හේතුව? මාරයා පැමිණියේ පින්වතුනේ කෙලෙස් වලින් කම්පිත කරවන්න, කෙලෙස් වලින් බියවද්දන්න. හැබැයි කෙලෙස් වලින් කිසි කලෙකත් කම්පා කල නොහැකි, කෙලෙස් වලින් බියවැද්දිය නොහැකි උත්තමාවියක් තමයි සීසූපචාලා තෙරණිය. ඈ කෙලෙස් ඔක්කොම දුරු කරලා. ඈ මේ කෙලෙස් දුරු කිරීම ගැන කියනකොට බිය හට ගන්නේ මාරයාටමයි, සලිත වීම හටගන්නේ මාරයාටමයි. කෙලෙස් වලින් ගිනි ගන්න ලෝකයේමයි මාරයා ඉන්නෙත්. කෙලෙස් වලින් දුම් දමන ලෝකයේමයි මාරයා ඉන්නෙත්. කෙලෙස් වලින් කෙලෙස් ගිනිදැල් වලින් වෙළී පවතින ලෝකයේමයි මාරයා ඉන්නෙ. කෙලෙස් වලින් කම්පා වෙන ලෝකයේමයි මාරයා ඉන්නෙත්. කම්පාව කියන්නෙ පින්වතුනි, කෙලෙස් කම්පාව කියන එක සුගති දුගති අතරේ

සත්වයාව කම්පා කරවනවානෙ. මේ සුගතියේ ඉන්නවා, ඊළඟ මොහොතේ දුගතියේ. මේ හොඳට ඉන්නවා. ඊළඟ මොහොතේ භීතිය හටගන්නවා. මේ ඔක්කොම සලිත වීම් කෙලෙස් සහිත ලෝකයේ තියෙන ඒවා. මේ සීසූඑචාලා තෙරණියත් එක්ක කතා කරන්න ආපු මාරයාත් කෙලෙස් සහිත ලෝකයේ ඉන්න කෙනෙක්නෙ. ඒ නිසා කියනවා මාරය, ඔය කාරණයේදී නැසුනේ ඔබයි. මට කිසි හානියක් නෑ කිව්වා. ඔහේ මාත් එක්ක කතා කරන්න එනකොටත් මම නිදහස් වෙච්චි කෙනෙක්. එතකොට මේ කරුණු අහගෙන හිටපු මාරයාට දුක හිතුනා. අයියෝ මේ සීසූඑචාලා තෙරණිය මාව අඳුනගත්තානෙ. සීසූඑචාලා තෙරණිය මාව දැනගත්තා නොවැ  කියලා මාරයා දුකට පත්වුනා. දුකට පත්වෙලා, තත්‍රේව අන්තරධායිති - එතනම අතුරුදහන් වුනා. දැන් බලන්න පින්වතුනි මේ බුදු සසුනේ අපි දැන් දින තුනක් තිස්සේ  ඉගෙන ගත්තේ සාරිපුත්ත මහරහතන් වහන්සේගේ ගිහි කල සහෝදරියන් වෙච්චි භික්ෂූන් වහන්සේලා ගැනනෙ. ඒ භික්ෂූන් වහන්සේලා තුන් නමම ළඟටම මාරයා පැමිණුනා. පැමිණිලා ඔහොම කතා කලා. හැබැයි ඉතින් මාරයාව නැසී යන ආකාරයෙන්ම ඒ උත්තමාවියො දහම් කතා වැදෑරුවා. බුදු සසුන කියන්නෙ හරි අසිරිමත් තැනක්. ඒ අසිරිමත් බුදු සසුනේ අසිරිමත් නිවන තුළ සැනසුනේ රහතන් වහන්සේලාත්, රහත් තෙරණින් වහන්සේලාත් ය. අපි අද ඉගෙන ගත්තේ සීසූපචාලා නම් වූ අර්හත් උත්තමාවියගේ උතුම් ගාථාවන්නෙ. ඉතින් සීසූපචාලා තෙරණියට නමස්කාර කරමින් වන්දනා කරමින් අපිත් අධිෂ්ටාන කරමු අසිරිමත් බුද්ධ ශාසනය අපිටත් මුණගැසී තිබේ. මේ මුණගැහුනු මොහොතේ කල්‍යාණමිත්‍රයන් වහන්සේලා සත්පුරුෂයන් වහන්සේලා මුණගැසිච්චි මොහොතේ ඒ අසහාය මුණිඳුන් වන බුදුරජාණන් වහන්සේගේ සරණ ලබාගෙන කලණ මිතුරු ඇසුරේ සුවසේ සිල්ගුණදම් දියුණු කරගෙන ආර්ය අෂ්ටාංගික මාර්ගය දියුණු කරගෙන මේ කෙලෙස් වලින් පීඩා විඳින, කෙලෙස් වලින් ගිනි ඇවිලිච්චි ලෝකෙන් නිදහස් වෙලා රහතන් වහන්සේලා රහත් තෙරණිවරු සැනසුනු නිවනේ අපිටත් සැනසෙන්න ලැබේවා. සාදු සාදු සාදු!!!

අද දවසේ ධර්ම දානමය වශයෙන් අපි රැස් කල හැම පිනක්ම සියලු දෙවියෝ සතුටින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන් වන දෙවිවරු සක් දෙවිඳුන්, සතරවරම් දෙවිවරු, සෙන්පති දෙවිවරුන්, අපගේ ඉෂ්ටකාමී හිතකාමී සියලු දෙවිවරුන්, ශ්‍රීමත් සුමන සමන් දෙව්රජ ප්‍රධාන පොළොව වාසී සියලු දෙවිවරුන් පින් අනුමෝදන් වෙලා දිව්‍ය සැපයෙන් දිව්‍ය ආශ්වයයීයෙන් වැඩෙත්වා. ඒ සියලු

දෙවියන්ගේ රැකවරණය, උපකාරය අපි හැමදෙනාටම දෙවියෝ නිරන්තරයෙන්ම සළසත්වා. දෙවියෝද සසර දුකින් අතමිදෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අප හැමදෙනාගේ කල්‍යාණමිත්‍ර ගුරුදේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. ගුරු දේවයන් වහන්සේ නිදුක් වෙත්වා, නිරෝගී වෙත්වා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. මේ ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්නට වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද ධර්ම දානය සිදු කරන ප්‍රංශයේ පදිංචි ඒ පින්වත් දියණිය විසින් බලාපොරොත්තු වන ආකාරයෙන් ප්‍රංශයට වැඩම කොට කරුණාවෙන් දහම් දෙසූ සියලූම ස්වාමීන් වහන්සේලාට මේ පින් අනුමෝදන් කරනවා. මහමෙව්නාවාසී රටලෝක වාසී පූජනීය මහාසංඝරත්නයට, විශේෂයෙන් ඒ ප්‍රංශයට වැඩම කොට කරුණාවෙන් අනුකම්පාවෙන් දහම් දෙසූ කල්‍යාණමිත්‍ර පින්වත් ස්වාමීන් වහන්සේලා සෑම සියලු දෙනාට, සිල් ගුණ දම් සපුරන රට ලෝක වාසී පූජනීය මහාසඟරුවන පින් අනුමෝදන්ව, පින්වතුන් වහන්සේලා නිදුක් වෙත්වා, නිරෝග වෙත්වා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා, ගෞතම ශාසනය තුළම ධර්මාවබෝධයෙන් සැනසෙත්වා. සාදු සාදු සාදු!!! ධර්ම දානය සිදු කරන ඒ පින්වත් දියණියගේ නමින් අනන්ත සසර පුරවාට මිය පරලොව ගිය සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන්ව ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා. ඥාතීන්ට දුක් සහිත සසරින් ඉතා ඉකමණින්ම නිදහස් වෙන්න වාසනාව ලැබෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදන් කරන්න. විශේෂයෙන් බලාපොරොත්තු වෙන ආකාරයෙන්ම විශ්වවිද්‍යාල අධ්‍යාපන කටයුතු අවසන් වීම නිමිත්තෙන් මේ තාක් කාලයක් ජීවිතයේ යහපත පිණිස, අභිවෘද්ධිය පිණිස කරුණාවෙන් අධ්‍යාපනය ලබා දීපු සියලූම ගුරු මෑණිවරුන්ට මේ පින් අනුමෝදන් වෙත්වා, ගුරු පියවරුන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. ආධුනිකත්ව පුහුණුව උදෙසා අවස්ථාව ලබාදුන්න් සියලූම මහත්ම මහත්මීන්ටත් මේ සියලූම පින් අනුමෝදන් වෙත්වා. ආදරණීය දෙමව්පියන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. සහෝදර සහෝදරියන්ට පින් අනුමෝදන් වෙත්වා. ඒ පින්වන්ත දියණියගේ පවුලේ හැමදෙනාටම පින් අනුමෝදන් වෙලා ධර්ම දානමය වශයෙන් රැස් වූ පිනේ ආශිර්වාදයෙන් තෙරුවන් සරණින්. සියලු දෙවියන්ගේ රැකවරණින් සියලු යහපත, අභිවෘද්ධියම සැලසේවා. ඒ හැමදෙනාට ගෞතම ශාසනයේ ධර්මාවබොධ කරන්න වාසනාව ලැබෙත්වා

කියල අපි සෙත් ප්‍රාර්ථනා කරමු. විශේෂයෙන් අපි සෙත් පතනවා අද ධර්ම දානය සිදු කලා වූ ඒ ප්‍රංශයේ පදිංචි පින්වත් දියණියට එතුමියට කිසිම කරදරයකින් බාධාවකින් හිරිහැරයකින් පීඩාවකින් තොරව තමන්ගේ ජීවිතයට සියලු යහපත සියලු අභිවෘද්ධිය උදාකගන්න ලැබේවා. ඒ සඳහා සියලු දෙවි දේවතාවුන් වහන්සේලාගේ ආරක්ෂාව රැකවරණය, ආශිර්වාදය නොඅඩුවම ජීවිතයට සැලසෙත්වා. ලැබිච්චි මේ දුර්ලභමනුස්ස ජීවිතේ කල්‍යාණමිත්‍ර සත්පුරුෂයන් මුණගැහුනු මොහොතේ ඒ සත්පුරුෂ ඇසුර අහිමි නොකරගෙන තවදුරටත් සුවසේ පින් රැස් කරගන්න, සුවසේ දහම් මග දියුණු කරන්න, සුවසේ ගුණධර්මයන්ගෙන් ජීවිතය පෝෂණය කරගන්න, ඒ පින්වන්ත දියණියට අවකාශ ලැබෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්මදාන පින්වතුන්ලා හැමදෙනාටත්, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සෑම සියලු දෙනාටත් සුපින්වත් ඔබ හැමදෙනාටත් පින් අනුමෝදන් වෙලා තෙරුවන් සරණින්, සියලු දෙවියන්ගේ රැකවරණින්, ඔබ හැමදෙනාට සියලු යහපත උදාවේවා. මේ ගෞතම ශාසනය තුළ සුවසේ ගුණදහම් දියුණු කරගෙන, සුවසේ පින් දහම් සකස් කරගෙන චතුරාර්ය සත්‍යය අවබෝධයෙන් සැනසෙන්න හැමදෙනාටම වාසනාව ලැබෙත්වා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=ZW46bdHCGJQ

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද දවසේ මේ උතුම් ධර්ම දේශනාවට විකාශන දායකත්වයන් එකතු කරමින් ධර්ම දානමය පින සිද්ධ කරන්නෙ, මාතර උඩඅපරැක්ක මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ ශ්‍රද්ධා ධර්ම දාන සාමාජික පින්වත් එච්.පී. සිරියාවතී මැණියන් සහ අයි.පී. විජම් පියාණන් විසින්. ඉතින් ඒ පින්වතුන්ලාගේ දායකත්වයෙන් අද ධර්මය ඔබට ශ්‍රවණය කරන්න ලැබෙනවා අර්හත් උත්තමාවියක් ගැන. වඩ්ඩමාතා නම් වූ රහත් තෙරණියගේ ගාථා තමයි අද අපිට ඉගෙන ගන්න තියෙන්නෙ. මේ වඩ්ඩමාතාව කියලා කියන්නෙ සංසාර ගමනේ ගොඩාක් පින් කරගෙන පැමිණිලා පින් සහිත කෙනෙක් විදියට අරහත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ දඹදිව් තලයේ පහළ වෙනකොට ඒ කාලෙම ඈ පහළ වෙනවා දඹදිව භාරුකච්ඡෙ, ඔය භාරුකච්ඡෙ කියන නම ඇතැම් වෙලාවට පින්වතුන්ලා නොයෙක් දේශනා වලදී අහලා ඇති. යම් පමණක් ප්‍රසිද්ධ නමක් භාරුකච්ඡෙ කියන්නෙ. ඔන්න ඔය භාරුකච්ඡෙ තමයි ඈ උපන්නෙ. ඇගේ මුල් නම, ඒ කියන්නෙ ඇගේ නම මොකක්ද කියලා අටුවා පොත්වහන්සේ නමකගේ වත් සඳහනක් නෑ. ඈ පිළිවෙලින් තරුණ වයසට පැමිණියාට පස්සෙ ඇව විවාහ කරලා දුන්නා. විවාහයෙන් ඇට පුතෙක් ලැබුනා ඒ පුතා පශ්චිමභවිකයෙක්. පශ්චිමභවික කියලා කියන්නෙ රහතන් වහන්සේලාට. ඊළඟට පශ්චිමභවිකයා කියලා කියනවා බෝසත්වරු උපදිනකොටත්. ඒ කියන්නෙ පසේබෝසත්වරු, ඊළඟට සම්මා සම්බුද්ධත්වයට පත්වෙන බෝසතාණන් වහන්සේලා. ඒත් කියන්නෙ පශ්චිමභවික, අන්තිම උපත. ඒ උපතින් පස්සෙ ආයෙ උපතක් නෑ, උපතක් නැති කෙනෙක් බවට පත්වෙනවානෙ. සම්මා සම්බුදුරජාණන් වහන්සේ බෝසතාණන් වහන්සේ විදියට පශ්චිමභවිකව උපන්නාම ශ්‍රී සම්බුදු බව සාක්ෂාත් කරලා පිරිනිවෙනවා. යළි උපතක් නෑ, සියලු පසේ බුදුරජාණන් වහන්සේලා පශ්චිමභවික විදියට ඉපදිලා තම තමන් වහන්සේලා ධර්මය අවබෝධ කරගෙන නිදහස් වෙනවා, ආයෙ උපතක් නෑ, පශ්චිමභවික. ඊළඟට සියලු රහතන් වහන්සේලා. ඒ රහතන් වහන්සේලා අර්හත්වයට පින් තිබ්බ උත්තමයෝත් පශ්චිමභවික විදියට උපදිනවා. ඒ ඉපදිලා බුදු කෙනෙක්ගේ දහම් පහස ලබලා, සියලු කෙලෙස් නසලා අර්හත්වයට පත්වෙනවා, නිදහස් වෙනවා. දැන් අපි ගත්තොත් එහෙම ඇගේ කුසින් උපන්න පුතා විතරක් නෙවෙයි පශ්චිමභවික. මැයත් පශ්චිමභවිකයි. මොකද අවසානයේ අර්හත්වයට පත්වුනානෙ. ඒ පශ්චිමභවික පින්වන්ත පුතෙක් තමයි ඇගේ කුසේ පිළිසිඳගත්තෙ. ඒ පුතා උපන්නාට පස්සෙ ඔහුට නම දැම්මා වඩ්ඩ. ඔහුගේ නම වඩ්ඩ නිසා මේ උත්තමාවි ප්‍රසිද්ධ වුනේ

වඩ්ඪමාතා කියන නමින්. හැබැයි ඇත්තටම ගත්තොත් මේ වඩ්ඪමාතා කියන උත්තමාවිය නිසා තමයි ඒ වඩ්ඪ කියන පශ්චිමභවික පින්වන්ත පුත්‍ර රත්නයටත් ධර්මය අවබෝධ කරන්න ලැබුනෙ. ඒ සිද්ධිය මෙහෙමයි වුනේ. පුතා ලැබිලා ටික කාලෙකට පස්සෙ තමයි මේ කාන්තාවට බණ අහන්න ලැබුනෙ. ඇය නුවණැතියි, බණ අහගෙන ඉන්නකොට ගොඩාක් හිත පැහැදුනා. ඇගේ කුලය ධනවත් කුලයක්. ඈ ඒ ධනවත් කුලයේ සැප සම්පත් විඳිමින්ම ධර්මය ශ්‍රවණය කලා. ටික ටික බණ අහනකොට ඇට පැවිද්දට හිත පිහිටියා. ඇට පැවිදි වෙන්න හිතෙන කාලය වෙනකොට වඩ්ඪ කියන තමන්ගේ එකම පුතාත් ලොකුයි. ඉතින් ඒ නිසා දරුවො බලාගන්න ඕන, දරුවන්ගේ කටයුතු වෙන්න ඕන කියලා එහෙම ප්‍රශ්නෙකුත් නෑ. ඈ තීරණය කලා මහණ වෙන්න. ස්වාමිපුරුෂයාගෙනුත් අවසර අරගෙන අනිකුත් ඥාතිහිතමිත්‍රාදීන්ගෙනුත් අවසර අරගෙන මේ අම්මා පිටත් වුනා. හැබැයි අම්මා පිටත් වෙනකොට වාවගන්න බැරි දුකකට පත්වුනේ හිටපු එකම පුතා, වඩ්ඪ. තරුණ වයසේ කොල්ලා වුනත් අම්මා වෙන්වෙලා යන එක දරාගන්න බැරිව ගියා. ඒ නිසා අම්මා මහණ වුනාට පස්සෙ අම්මාට ගොඩාක් ළංවුනේ මේ වඩ්ඪ. නිතර අම්මා ඉන්න මෙහෙණවරට යනවා. ඒ මව් භික්ෂුණිය ඇසුරු කරනවා. බණ අහනවා. මෙහෙම මෙහෙම කාලය ගතවෙනකොට ඔහුටත් ආසාවක් ඇතිවුනා, මේ බණ පද අහද්දි අහද්දි පැවිදි වෙන්න. ඉතින් අම්මා පැවිදි වුන නිසා මාත් පැවිදි වෙන අදහසින්. අම්මා පැවිදි වෙච්ච සාසනයේම මාත් පැවිදි වෙනවා කියන අදහසින් බුද්ධ ශාසනයේ මහණ වුනේ. පැවිදි වුනාට පස්සෙත් මේ වඩ්ඪ කියන ස්වාමීන් වහන්සේට මව්භික්ෂුණිය බලන්නේ නැතිව බෑ, මව් සෙනෙහස නිසා. අම්මා කෙරෙහි තියෙන ආදරය නිසා, කළින් කලට ඇවිල්ලා අම්මාව බැහැ දකිනවා. සතියකට දෙතුන් වතාව එනවා. ඔහොම ඔහොම කාලය ගතවුනා. හැබැයි මේ වඩ්ඪමාතා භික්ෂුණිය, වඩ්ඪමාතා මාතාව වීර්යයෙන් ධර්මයේ හැසිරෙච්චි කෙනෙක්, ඉතාම කෙටි කාලයයි, ඒ උත්තමාවි සියලු කෙලෙස් නසලා රහත් තෙරණියක් බවට පත්වුනා. ඒ උත්තමාවිය අර්හත්වයට පත්වුනාට පස්සෙත් පුතා, නිතර නිතර එනවා කියනවා භික්ෂුණී ආරාමයට ඇව බලන්න. සමහර වෙලාවට නුසුදුසු කාලෙත් එනවා. නුසුදුසු කාලෙ කියලා කියන්නෙ ස්ත්‍රීන් ඉන්න තැනකට සාමාන්‍යයෙන් හවස් වෙන්න, අඳුරු වැටෙන්න එහෙම එක එක සුදුසු නැනෙ. ඉතින් මේ භික්ෂුව අම්මා බලන්න එන නිසා කිසිම හැඟීමක් නැතිව කාලයක් වෙලාවක් නැතිව මේ භික්ෂුණිය බලන්න භික්ෂුනී ආරාමයට එනවා. ඒක ප්‍රශ්නයක් වෙන්න පුලුවන් නිසා, ඒ උත්තමාවී කල්පනා කලා මගේ

පුත්‍රරත්නයාටත් මේ සෙනෙහසින් උපදින දුක්, සෙනෙහස නිසා හටගන්න ගිනි, මේවා මොකුත් නැත්නම්. මගේ පුත්‍රයාටත් ඒ අමෘත සැනසීම වන නිවන සාක්ෂාත් කරනවා නම්. මගේ මේ පුත්‍ර වූ මේ භික්ෂුවට මං අවවාද කරන්න ඕන කියලා හිතුවා. ඔන්න ඒකෙන් තමයි මේ වඩ්ඪමාතාවගේ ථෙරීගාථා සැකසෙන්නෙ. වඩ්ඪමාතා භික්ෂුණිය මේ වඩ්ඪ කියන භික්ෂුවට මේ විදියේ අවවාදයක් කලා. පුතේ වඩ්ඪ මේ ලෝකය තුළ ඔයාට කෙලෙස් වණයක් නම් හටගන්න එපා. පුතේ ආයෙ ආයෙමත් උපදින මේ දුකට නම් හිමිකාරයෙක් වෙන්න එපා. වඩ්ඪ කෙලෙස් නැති කරපු සැක සංකා නැති කරපු මුණිවරු සැපසේ වාසය කරනවා. ඒ නිකෙලෙස් මුණිවරු දමනය වෙලා සිසිල් වෙලා ඉන්නෙ. ඉතින් වඩ්ඪ ඔයත් ඒ ඍෂිවරුන් පුරුදු කරපු මාර්ගයේ යන්නකො, ධර්මාවබෝධ කරගන්න. දුක අවසන් කිරීම පිණිස පුහුණු වෙන්න. අම්මා කෙනෙකුගෙන් පුතෙකුට ලැබිච්ච අවවාදය. මේ ලෝකය, මේ ලැබිච්ච ජීවිතය කෙලෙස් වණයක් කරගන්න එපා, කෙලෙස් වනය කියලා කියන්නෙ කෙලෙස් වලින් ගහන වූ ජීවිත. මේ ලෝකයේ බලපුවාම පින්වතුනේ සාමාන්‍ය දරුවෙකුට සාමාන්‍යයෙන් දෙමව්පියන්ගෙන් ලැබෙන්නෑ එහෙම අවවාද. මේ ජීවිතේ කෙලෙස් වණයක් කරගන්න එපා. කෙලෙස් වලින් ජීවිතය පුරවගන්න එපා, එහෙම අවවාද කලා. මුණිවරුන්ගේ ජීවිතය හරි සැප සහගතයි පුතේ, ඒ ජීවිතේ ඔයත් උපදවගන්න. දැන් මේ අවවාදය කරන භික්ෂුණිය ඒ මුණි මාවතේ වැඩම කරලා මුණිවරු විඳින සැපය  වන අමෘත නිවන් සැපය විඳින කෙනෙක්නෙ. මොකක්ද පින්වතුනි ඒ ධර්මාවබෝධ කිරීම පිණිස, දුක අවසන් කිරීම පිණිස පුහුණු වෙන වැඩපිළිවෙල. මේ බුද්ධ ශාසනය තුළ එහෙම පුහුණු වැඩපිළිවෙලක් තියෙනවා. අනුපිළිවෙල ප්‍රතිපදාවක් තියෙනවා. කෙනෙකුගේ ජීවිතේ පරම පාරිශුද්ධත්වයට හරීම ලස්සනට පත් කරගන්න පිළිවෙල බුදුරජාණන් වහන්සේ අපිට වදාරලා තියෙනවා. ඒ ගැන භාග්‍යවතුන් වහන්සේ බොහෝ දේශනා වලදි ඉස්මතු කර කර ඉස්මතු කර කර දේශනා කලා. ඒකෙ එක අවස්ථාවක්, බුදුරජාණන් වහන්සේ වැඩ හිටියා සැවැත්නුවර පූර්වාරාමයේ. පූර්වාරාමයේ වැඩ හිඳිද්දි ඒ කාලයේ හිටපු ගණන් සර් කෙනෙක්, ගණිතය උගන්වන ගුරුවරයෙක් භාග්‍යවතුන් වහන්සේ බැහැ දකින්න පැමිණෙනවා, ඔහුගේ නම මොග්ගල්ලාන. මොග්ගල්ලාන භාග්‍යවතුන් වහන්සේ දකින්න එනකොට මේ සිද්ධිය වෙනකොට අන්‍යාගම්. ඔහු බ්‍රාහ්මණ, මහා බ්‍රහ්මයා අදහ අදහා හිටියේ. හැබැයි භාග්‍යවතුන් වහන්සේ බැහැදකින්න ආවට පස්සේ බුදුරජාණන් වහන්සේත් එක්ක කතා කලේ කරුණු දැනගැනීමක් උදෙසා.

බුදුරජාණන් වහන්සේට වන්දනාමාන කලේ නෑ, පැත්තකින් ඇවිල්ලා ගෞරව සත්කාර දක්වලා වාඩිවුනා. වාඩිවෙලා භාග්‍යවතුන් වහන්සේට ආමන්ත්‍රණය කලා, භවත් ගෞතමයන් වහන්ස, ඒ පැහැදිච්ච නැති අන්‍යාගමික අය බුදුරජාණන් වහන්සේට කතා කලේ එහෙමනෙ, භවත් ගෞතම. පහන් සිත් ඇති කෙනා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, එහෙම ආමන්ත්‍රණය කරනවානෙ. දැන් ප්‍රසාද හිතක් නැති නිසා විශේෂ සරණක් ලබාගත් නැති නිසා මේ බමුණා කියනවා භවත් ගෞතමය, මේ මිගාරමාතු ප්‍රාසාදය මේ පූර්වාරාමය පඩිපෙළේ අන්තිම කෙළවර දක්වාම අනුපිළිවෙල වැඩපිළිවෙලක් දකින්න ලැබෙන එකක්. ඒ කිව්වෙ බිල්ඩින් එකක් ගත්තොත් එහෙම ඉදිකිරීමක් ඒකෙ පඩිපෙලේ ඉඳලා පියවරක් විදියට ලස්සනට යම් පිළිවෙලකට තමයි යම් ඉදිකිරීමක් සකස් වෙන්නෙ. ඒ ඉදිකිරීම් කටයුතු කෙරෙන්නෙ අනුපිළිවෙල ප්‍රතිපදාව තුළනෙ. මුලින්ම පාදම සකස් කරනවා. ඊටපස්සෙ මුලින්ම කරන්නෙ ඉඩම් සැලසුම අඳින එකනෙ. ඒ සැලසුම ඇන්දට පස්සෙ සැලසුමට අනුව පාදම සකස් කරනවා. අනුපිළවෙලින් බිත්ති බඳිනවා, මේ විදියේ වැඩපිළිවෙලක් තියෙනවානෙ. අනුපිළිවෙල ප්‍රතිපදාවකින් තමයි පූර්වාරාමය වුනත් ඉදිවුනේ. අපේ බ්‍රාහ්මණ ඉගැන්වීම් වලත් වේද ග්‍රන්ථ වලත් අනුපිළිවෙල ප්‍රතිපදාවක් දකින්න ලැබෙනවා. වේදය උගන්වනකොටත් ඒ ගුරුවරු හරි පිළිවෙලකට උගන්වනවා කියනවා. ඒ වගේමයි භවත් ගෞතමයන් වහන්ස ධනුද්ධරයන්ගේ ආයුධ ශිල්පය පවා අනුපිළිවෙල ප්‍රතිපදාවක් තියෙනවා. යුධ ශිල්පය කරන්න ඉගෙන ගන්න අයත් දුනු ශිල්පය කරන්න ඉගෙන ගන්න අයත් ඒ ඉගෙන ගන්නෙ පිළිවෙලකට. දැන් මේ ගැන නම් පින්වතුනි අපිට තේරෙනවානෙ. ඔය ඕනම ශිල්පයක් යම් පිළිවෙලකට ටික ටික පුරුදු වෙන්න ඕන. දැන් අපි ගත්තොත් එහෙම සාමාන්‍ය අධ්‍යාපන රටාව ඇතුලේ වුනත් ඉහළ විභාග කරන්න පොඩි පොඩි පන්ති වල නොයෙක් නොයෙක් කඩඉම් පහුකරගෙන යන්න ඕන නේද. අනුපිළිවෙලින් හික්මවනවා. කියනවා භවත් ගෞතමයිනි, ඒ වගේමයි ඉතින් අපි ගණිතය කරන කට්ටියක්නෙ. අපි ගණකාධිකාරී කටයුතු වලත් අනුපිළිවෙල ප්‍රතිපදාවක් තියෙනවා අපි ළඟට ශිෂ්‍යයො ආපුහාම අපි ඒ අයට උගන්වනවා අනුපිළිවෙලින්. අපි ගණන් කියලා දෙනවා. එක බැගින්, දෙක බැගින්, තුන බැගින් මෙහෙම අපි කියලා දෙනවා. පිළිවෙලක් තියෙනවා. ඉතින් භවත් ගෞතමයන් වහන්ස මං අහන්නෙ මේ ඉදිකිරීම් ශිල්පයේ යම් පිළිවෙලක් තියෙන්නේ යම් සේ ද, බමුණන්ගේ ඉගැන්වීම් වල පිළිවෙලක් තියෙන්නේ යම් සේද අනිකුත් ඉගැන්වීම් වල යම් පිළිවෙලක් තියෙන්නේ යම් සේද, ගණිතය

උගන්වන එකේ යම් පිළිවෙලක් තියෙන්නේ අනුපිළිවෙලක් තියෙන්නේ යම් සේද මං අහන්න සතුටුයි මේ බුද්ධ ශාසනය තුළ නිවනක් ගැන ඔබවහන්සේ කියනවා. මේ නිවනක් ගැන කියන බුද්ධ ශාසනයේ එහෙම අනුපිළිවෙලක් තියෙනවාද. බුදුරජාණන් වහන්සේ වදාළා බ්‍රාහ්මණ තථාගතයන් වහන්සේගේ ධර්ම විනය තුළත් අනුපිළිවෙල හික්මීමක් අනුපිළිවෙලින් කිරීමක්, අනුපිළිවෙල ප්‍රතිපදාවක් තියෙනවාමයි. මේකත් මේ ආවාට ගියාට කරන එකක් නෙවෙයි කිව්වා. පිළිවෙලක් තියෙනවා. පිළිවෙල මොකක්ද, බ්‍රාහ්මණ ඒ ගැන මෙන්න මෙහෙමයි දැනගන්න ඕන. දක්ෂ වූ අශ්වයන් පුහුණු කරවන කෙනෙක් ඉන්නවා. අශ්වයො පුහුණු කරන්න අතිදක්ෂයෙක්. අශ්වයො පුහුණු කරනවා කියන එක පින්වතුනි ලෙහෙසි වැඩක් නෙවෙයි. මොකද අශ්වයා කියලා කියන්නෙ කැලෑ සතා. උං කැලේට හුරුවෙච්චි කැලේ ඉන්න ආශාකරන තමන්ගේ රැලත් එක්ක නිදහසේ ඉන්න ආසා කරන එකෙක්. ඊළඟට උං දඩබ්බරයි. අතිශයින්ම වේගවත්, ජවසම්පන්නයි, ශක්ති සම්පන්නයි. මෙහෙම සතෙක්ව බලහත්කාරයෙන් අල්ලාගෙන ආවට පස්සෙ උංව තමන්ට වැඩක් කරගන්න පුලුවන් මට්ටමට දමනය කරනවා කියන්නෙ සෙල්ලමක් නෙවෙයි. දුෂ්කර දෙයක්. ඒක දුෂ්කර බව ඒ කාලේ ඇයෝ දැනගෙන හිටියා. දැන් වැඩේ කියන්නෙ මේ කාලෙ එහෙම ඉතින් ලොකුවට අශ්වයන්ගේ පාවිච්චියක් නැනෙ. ඒ කාලෙ රථ ගත්තත් ගොඩක් තිබුනෙ අශ්වරථ. එතකොට මිනිස්සුන්ට අශ්වයා කියන සතා නිතර ජීවිතේට සම්බන්ධ වුනා. අශ්වයෝ කියන්නෙ යම් වැදගත්කමක් තිබුනු මිනිස්සු හැමෝම ළඟ හිටපු එකෙක්. ඒකත් එක්ක මේ මොග්ගල්ලාන බමුණාට ගානට මේක ගැලපිලා යන්න ඇති. ඒ නිසාම භාග්‍යවතුන් වහන්සේ දේශනා කරනවා මොග්ගල්ලානය, ඕක මේ වගේ වැඩක්. ඔබ හිතන්නකො දක්ෂ අශ්වයො දමනය කරන මනුස්සයෙක් ඉන්නවා කියලා. ඔහුට හම්බෙනවා ඉතාම හොඳ වර්ගයේ ශ්‍රේෂ්ට අශ්වයෙක්. ඔහුට හමුවෙන්නෙ බාල වර්ගයේ එකෙක් නෙවෙයි. හොඳ දමනය වීමට සුදුසුකම් තියෙන, දමනය වීම පිණිස සුදුසු ගුණධර්ම, සුදුසු අංග තියෙන එකෙක්. ඒකෙන් තේරෙනවා හැම එකාවම දමනය කරන්න බෑ. ඔය කේසී කියන සූත්‍ර දේශනාවේදී කේසී කියන්නෙ අශ්වධම්මසාරථී, අශ්වයෝ දමනය කරන්න හරි දක්ෂයෙක්. කේසී කියනවා, ස්වාමීනී ඇතැම් අශ්වයො අපි දමනය කරන්නෙ මෘදුව. මෘදුව දමනය කරද්දී උන් දමනය වෙනවා. ඇතැම් අශ්වයො ඉන්නවා මෘදුව දමනය කරන එකට උන් එකතු වෙන් නෑ, එතකොට අපි උන්ව පරුෂව දමනය කරනවා. ටිකක් සැරට. ස්වාමීනී සැරට දමනය කරනකොට උං අඩුපාඩු

හදාගෙන දමනය වෙනවා. ස්වාමීනී ඇතැම් එවුන් ඉන්නවා මෘදුව කලත්, පරුෂව කලත් ඒකුන්ව දමනය කරන්න බෑ, ඒකුන් අපි කරන්නෙ හිමීට හොරාට එකතු කරාගෙන ගිහිල්ලා මරලා දානවා. ඇයි උඟව දමනය කරන්න පිළිවෙලක් නෑ, මේ ශිල්පයට අවනම්බුවක් වෙන්න එපා කියලා අපි උඟව මරලා දානවා කිව්වා. එහෙනම් තේරෙනවා කොටහකට දමනය වෙන්නම බෑ, ඒ කිව්වෙ අශ්වයො. අශ්වයො කොටසකට දමනය වීමේ හැකියාවක් ඇත්තේම නෑ, දමනය වීම සුදුසු, දමනය වීම පිණිස සුදුසුකම් තියෙන හොඳ වර්ගයේ ශ්‍රේෂ්ට අශ්වයෙක් ලැබුනා. එතකොට අශ්වයො දමනය කරන කෙනා මුලින්ම කරන්නෙ කටකලියාවේ පුහුණු කිරීම. උඟව අල්ලගත්ත ගමන් උඟට මුලින්ම දානවා කිව්වා කටකලියාවක්. ඒ කටකලියාව දැමීම තමයි අශ්වයා දමනය කිරීමෙහි මූලිකම පියවර. ඔන්න ඔය වගේ තේරුම් ගන්න කටකලියාව දැමීමෙන් පස්සෙ තමයි අශ්වයාව වැඩිදුරටත් පුහුණු කිරීම පිණිස යොදාගන්නෙ. බ්‍රාහ්මණ ඔන්න ඔය අයුරින්ම තථාගතයන් වහන්සේද තථාගතයන් වහන්සේ කරා පැමිණෙන හික්මවාලිය යුතු පුරුෂයා මුලින්ම හික්මවන්නේ මෙහෙමයි. බුද්ධ ශාසනයට පැමිණියාට පස්සෙ භාග්‍යවතුන් වහන්සේ වදාරනවා කියනවා භික්ෂුව දැන් ඔබ මෙහි එන්න. හොඳට සිල්වත් වෙන්න. පළමුවෙනි එක තමයි සිල්වත් වීම. තමන්ගේ සීලය හොඳට ආරක්ෂා කරන කෙනෙක් වෙන්න. අනුමාත්‍ර වරදේ පවා බය දැක දැක වාසය කරන්න. අන්න හික්මවීම. ඒ හික්මෙන පින්වතුනි සීල අතරේ, සීලය කියලා කියන්නෙ කාය වාචානං සමෝදානං සීලං. කයත් වචනයත් කියන දෙක සංවර කිරීමයි සීලය. අපි ගත්තොත් සංවර කරන්න ගොඩාක් අමාරු එකක්නෙ වචනය. කට සංවර කරනවා කියන එක හරි අමාරුයි. කට නිසා මනුස්සයා අසංවර වෙනවා. කටින් පිටවන වචන නිසාම මනුස්සයාගේ මුළු ජීවිතේම අසංවර වෙනවා. ඒ නිසා කයත් හොඳට සංවර කරන්න ඕන, වචනෙත් හොඳට සංවර කරන්න ඕන. එහෙම සංවර කිරීම තමයි සීලය. ඉතින් බුදුරජාණන් වහන්සේ මුලින්ම පනවන්නෙ සීලය කියනවා. දැන් මේ භික්ෂුව මුලින්ම කරන්න ඕන සිල්වත් වීම. සීලය තුලට පැමිණීම හරියට කොයි වගේද, අර දමනය වෙන අශ්වයාට කටකලියාව දානවා වගේ. ඔන්න දැන් සීලයේ හික්මුනා. සීලයේ හික්මිලා කියලා බුදුරජාණන් වහන්සේට පේනකොට දැන් නම් මේ කෙනා සීලවන්තයි. තමන්ගේ කයින් වචනයෙන් වෙන අනුමාත්‍ර වරදට පවා භය වෙන කෙනෙක්. පිරිසිදු ජීවිතයක් ගත කරන කෙනනෙක් කියලා තේරුනාට පස්සෙ බුදුරජාණන් වහන්සේ දෙවෙනි හික්මවීමට ඔහුව යොමු කරවනවා.

පින්වත් භික්ෂුව මෙහි එන්න, දැන් ඔබ ඉන්ද්‍රිය සංවර කරගන්න. ඉන්ද්‍රිය සුගුත්තද්වාර - හොඳට ඉන්ද්‍රිය සංවර කරන්න පටන් ගන්න කියනවා. ඇත්තටම කෙනෙකුට තමන්ගේ කට සංවර කර ගන්න බැරි නම්, තමන්ගේ කය සංවර කරගන්න බැරි නම්, ඒ කෙනාට ඉන්ද්‍රිය සංවරය කියන තැනට යන්න අමාරුයි. මොකද ඉන්ද්‍රිය සංවරය කියලා කියන්නෙ ඊට වඩා සියුම් එකක්. ඉන්ද්‍රිය සංවරය කියලා කිව්වෙ මොකක්ද, ඇස සංවර කිරීම. කණ සංවර කිරීම, නාසය සංවර කිරීම, දිව සංවර කිරීම, කය සංවර කිරීම සහ මානසික සංවරය - මනස සංවර කිරීම. ඔය ඉන්ද්‍රිය හය සංවර කරන්න ඕන. සිල්වත් වෙච්චි තැනැත්තාට දෙවෙනියට ලැබෙන පුහුණුව තමයි ඉන්ද්‍රිය සංවරය. ඉන්ද්‍රියේ සුගුත්තද්වාරො විහරත - ඉඳුරන්ගේ දොරටු වසාගෙන වාසය කරන්න. ඒ දොරටු වහගන්නවා කියලා කිව්වෙ මේ ඇහෙන් රූපයක් දැකලා වේවා, කණෙන් ශබ්දයක් අහලා වේවා, නාහයෙන් ගඳක් සුවඳක් දැනගෙන වේවා, දිවෙන් රසයක් දැනගෙන වේවා, කයෙන් පහසක් දැනගෙන වේවා, හිතට එන අරමුණකින් වේවා, නිමිත්තක් අනු නිමිත්තක් ගන්න එපා කියනවා ඇතුලේ අවුලක් හටගන්නවා. ඇතුලේ අවුලක් හටගන්නවා කියලා කියන්නෙ පින්වතුනි, එක්කො රාගය ඇවිස්සෙනවා නම්, එක්කො ද්වේෂය ඇවිස්සෙනවා නම්, එක්කො ඊර්ෂ්‍යා හිතෙනවා නම්, කුහකකම් හිතෙනවා නම්, නැති ප්‍රශ්න, නැති අර්බුද හටගන්නවා නම් ඒ ජාතියේ නිමිති, අනු නිමිති මේ ඇස කණ නාසය දිව කය මනස කියන මේ දොරටු එකකින්වත් ඇතුලට ගන්න එපා කියනවා. කුණු ගඳ ගහන සතෙක් ගේ ඇතුලට දාගත්තොත් එහෙම ඒ සතා හින්දා ගේ ගඳ ගහනවා. අපි එතකොට ඒ සතාට දොර වහන්න ඕන. ඇයි ඒ සතා ආවොත් එහෙම ගේ ගඳ ගහනවාමයි. විස සහිත සත්තු, සර්පයො ගෝනුස්සො පත්තෑයො වගේ සත්තු මේ ගෙවල් ඇතුලට ඇවිල්ලා මිනිස්සුන්ට දෂ්ට කරන නිසා, විපතක් වෙන්න පුලුවන් හැකියාව නිසා, ඒ විපත්තිකර කාරණය නිසාමයි නේද මිනිස්සු ඒ සත්තුන්ට ඇතුල් වෙන්න බැරිවෙන්න දොරවල් වහන්නෙ. දොරවල් වහනවා. මේ දොරටු වැහුවාට පස්සෙ දොර වැසීම හේතු කරගෙන අර ප්‍රශ්න වළක්වන්න පුලුවන්. ඔන්න ඔය විදියමයි, ඔය විදියටයි තේරුම් ගන්න ඕන, ඇස කණ නාසය, දිව, කය, මනස කියන මේ ආයතන හයෙන් මේ ආයතන හය මුල් කරගෙන කිසිම විදියකින් අභ්‍යන්තර අර්බුදයක් හටගන්න දෙන්නේ නැති විදියට මේක සංවර කරගන්න කියලා. සරලවම ඉන්ද්‍රිය සංවරය තේරුම් ගන්න ඕන ඒ විදියට. මොකද පින්වතුනේ මේ ජීවිතේ ගත කරනකොට ජීවිතේ ඇතුලේ සියලු වෙහෙසවල් ඔය ඉන්ද්‍රියක් තුලින් නේද අපිට එන්නෙ. අපිට

කවුරුහරි බැන්නා කියලා ප්‍රශ්නයක් හටගන්නෙ, කණ කියන ඉන්ද්‍රියෙන් ඒක එන්නෙ. ගන්දස්තාරෙ බෑ කියන ප්‍රශ්නෙ එන්නෙ නහය කියන ඉන්ද්‍රියෙන්. අද නම් කෑම රහ නෑ කියන ප්‍රශ්නෙ එන්නෙ දිව කියන ඉන්ද්‍රියෙන්. එතකොට අපිට තේරෙනවා මේ එකක් එකක් ගානෙ එන්නෙ ඉඳුරන්ගෙන්. කෙනෙක් දක්ෂ වෙන්න කියනවා ඉන්ද්‍රිය ටික සංවර කරගන්න. ඒ තමයි දෙවෙනි හික්මවීම. දැන් භාග්‍යවතුන් වහන්සේට පේනවා භික්ෂුව සීලවන්තත් වෙලා ඉන්ද්‍රිය සංවර කරගෙන. ඊටපස්සෙ ඔහුව තුන්වෙනි හික්මවීමේ හික්මවනවා. ඒ මොකක්ද? ප්‍රත්‍යවේක්ෂා කර කර, ප්‍රත්‍යවේක්ෂා කර කර භෝජන අනුභව කරන්න. දානෙ වළඳනකොට නුවණින් සලකලා දන් වළඳන්න. මේ දානෙ ගන්නෙ හැඩවෙන්න නෙවෙයි. මේ දානෙ ගන්නෙ මත්වෙන්න නෙවෙයි, මේ දානෙ ගන්නෙ ශරීරයේ අඩුතැන් පුරවගන්න නෙවෙයි. මේ ආහාරය ගන්නෙ වෙන යම් හෝ ජවයක් පිණිස, මදයක් පිණිස නෙවෙයි. මේක මේ කය පවත්වගන්න විතරයි. මං සීල සමාධි ප්‍රඥා වඩමින් ගත කරමින් ඉන්න ජීවිතයට අනුග්‍රහ පිණිස, දැන් ඉපදිලා තියෙන කුසගිනි වේදනා නසන්නටත් යළි කුසගිනි වේදනා හටනොගැනීම පිණිසත් කුසගිනි වේදනා වලින් තොරව සුවසේ වාසය කරන්නටත් මේ ආහාරය මං ගන්නේ කියලා අන්න එහෙම ආහාරයේ පමණ දැනගෙන ඒකට තමයි කියන්නෙ පමණ දන්නවා කියලා. භෝජනේ මත්තඤ්ඤෝ - ආහාරයේ පමණ දැන වළඳින්න. ඉතින් ආහාර ප්‍රත්‍යවෙක්ෂා කරන්න ඕන. ඒ ආහාර ප්‍රත්‍යවෙක්ෂාව කරලා ආහාරය කෙරෙහි නොඇල්මෙන් දැන් දානය වළඳනවා කියලා දැනගත්තහම, හතරවෙනි හික්මීමේ හික්මවනවා. ඒ මොකක්ද හතරවෙනි හික්මීම, ජාගරියානුයෝගය. ජාගරියානුයෝග කියලා කියන්නෙ නිදිවරාගෙන භාවනා කරන්න හික්මවන එක. එතකොට කෙනෙක් නිදිවරාගෙන භාවනා කරන්න වීර්යය වඩන්න දක්ෂ වෙන්නෙ අනිත් දේවල් වලට වීර්යය වඩපු කෙනා. සීලය පිණිස වීර්යය හොඳට වඩපු කෙනා. සීලය කියන්නෙ වීර්යයක් නැති කෙනෙකුට කරන්න බෑනෙ. කය සංවර කරන්න වීර්යයක් ඕන. වචනය සංවර කරන්න වීර්යයක් ඕන. ඒ වීර්යය තිබුනු කෙනාට භාග්‍යවතුන් වහන්සේ තව වීර්යය උපද්දවනවා, ඉන්ද්‍රියත් සංවර කරන්න. එතකොට ඔහු ඇහැ සංවර කරන්න වීර්යය කරනවා, කණ, නාසය, දිව, කය, මනස සංවර කරන්න වීර්යය කරනවා. ඒ වීර්යය කරපු කෙනාව ඊළඟට භාග්‍යවතුන් වහන්සේ හික්මවනවා, ආහාරයේ ප්‍රමාණය දැනගෙන ප්‍රත්‍යවේක්ෂාවෙන් වළඳන්න වීර්යය කරන්න. දැන් මේ දිවට දැනෙන අපේක්ෂාවන්ගෙන් තොරව ප්‍රත්‍යවේක්ෂාව තුළ දානෙ වළඳනවා. ආහාරය

කියලා කියන්නෙ පින්වතුනේ මේ ආහාරය කියලා කියන්නේ සත්වයෙක් යැපීම පිණිස අනිවාර්යයෙන් ගන්න එකක්නෙ. අර්බුද ගොඩාක් හටගන්න එකක් ආහාරය. කෑම බීම කියලා කියන්නෙ මනුස්සයෙක්ගේ ජීවිතයට ගොඩාක් බැඳිලා තියෙන එකක්. එතකොට කෑම බීමත් එක්ක හටගන්න කෙලෙස් ගොඩාක් තියෙනවා. හොඳට රහට කන්න ලැබෙන්නෙ නැතිකොට, ඒ රහට කන්නෙ නොලැබීම කියන කාරණාව එකතු කරගෙන සිවුරුත් හරිනවා. කුම්බීල භය කියලා එකක් සාසනේ තියනෙවානෙ. කෑම බීම හින්දාම සිවුරුත් හරිනවා. ඉතින් ඊටත් වඩා වැඩි දේ මොනවාද. හරියට කෑම බීම නොලැබෙන්නේය කියලා සිවුරුත් හරිනවා. ඊළඟට හතරවෙනි පාරාජිකාව පනවනකොට භාග්‍යවතුන්වහන්සේ ඒ පාරාජිකාවට පසුබිම් වුනෙත් ඔහොම එකක්නෙ. හතරවෙනි පාරාජිකාව නැති මාර්ගඵල කීම කියන එකට පසුබිම් වුනෙත් ආහාරයක්. දුර්භික්ෂ කාලයක් ආවා. ඒ දුර්භික්ෂ කාලෙ දාන මාන අඩුවුනා. භික්ෂූන්ට හරි අමාරුයි. භික්ෂූන් කාණ්ඩයක් කතාවුනා අපි මෙහෙම කරමු. මිනිස්සුන්ට අපි මේ දුර්භික්ෂ කාලෙ ගෙවල් වලට ගිහිල්ලා කියමු අහවලා අහවලා මේ මේ මාර්ගඵල ලබලා ඉන්නෙ කියලා අපි බොරු කියමු. එතකොට මිනිස්සු පැහැදිලා අපිට දානෙ පූජා කරන්නැතෑ, මේ දුර්භික්ෂ කාලෙත් අපිට යැපෙන්න පුලුවන් කියලා. ඉතින් භික්ෂූණ් මිනිස්සුන්ට බොරු කිව්වා. මිනිස්සුන්ට කියනවා අසවල් ස්වාමීන් වහන්සේ දන්නවාද, රහත් වෙලා ඉන්නෙ. අසවල් ස්වාමීන් වහන්සේ, අනාගාමීයි. අන්න එහෙම කියනවා, ඒ කිව්වහම මිනිස්සුන්ගේ හිත හරීයට පහන් වෙනවා. දුර්භික්ෂ කාලෙ තමන්ට කන්න නැතිව තියෙද්දි මේ රහතන් වහන්සේ නමකට දානෙ පූජා කරන්න ලැබෙනවා කියලා මිනිස්සු තියෙන දේ ගෙනල්ලා පූජා කලා. ආහාරයක් පතාගෙන එහෙමත් කලා. එතකොට තමයි භාග්‍යවතුන් වහන්සේ හතරවෙනි පාරාජිකාව පැනෙව්වෙ. ඒ පාරාජිකා ආපත්තිය. එතකොට තේරෙනවා ආහාර ප්‍රත්‍යවේක්ෂා කර කර වළඳන්නත් වීර්යයක් ඕන. ඒ වීර්යය තිබ්බ කෙනාට තමයි බුදුරජාණන් වහන්සේ අනුදැන වදාරන්නෙ ජාගරයානුයෝගය, නිදිවරාගෙන භාවනා කරන්න පටන් ගන්න. උදෑසන කාලයේත් සවස් කාලයේත් රාත්‍රී කාලයේත් සක්මන් කරමින් වාඩිවෙමින් භාවනා කරන්න, රෑ මැදියම් වේලෙ විතරක් සැතපෙන්න කියන කාරණය. ඉතින් ඔය විදියට ජාගරයානුයෝගයෙන් වාසය කරනකොට ඒ භික්ෂුවගේ වීර්යය තව වැඩෙනවා. එතකොට භාග්‍යවතුන් වහන්සේ අනුදැන වදාරනවා සති සම්බොජ්ඣංගය, සිහි නුවණින් වාසය කිරීම. හැම කටයුත්තක්ම සිහියෙන්

නුවණින් කිරීම. ඒක හිතන තරම් ලේසි එකක් නෙවෙයි. ජීවිතේ හැම කටයුත්තක්ම සිහියෙන් කිරීම. බලන්න එතෙන්ට එන්න කොච්චර හික්මවීමක් හික්මවනවාද. සිල්වත් වෙලා ඉන්ද්‍රියෝ සංවර කරගෙන ආහාරයේ පමණ දැන වළඳමින්, ජාගරියානුයෝගය කරලා එහෙම තමයි දැන් සිහිනුවණ පවත්වන්නෙ. මොකද සිහිනුවණින් හැමතිස්සේම ඉන්න තරම් ඒ භික්ෂුවට දැන් වීර්යයක් තියෙනවා. ඔන්න සිහිනුවණ හුරු කරනවා. දැන් ඔබ හොඳට සිහිනුවණිනුත් යුක්තයි කියලා දැනගත්තට පස්සෙ භාග්‍යවතුන් වහන්සේ ඒ භික්ෂුවට කියනවා, භික්ෂුව දැන් විවේකී තැනක් ඇසුරු කරගෙන භාවනා කරන්න පටන් ගන්න. කොහොමද භාවනාව. බුදුරජාණන් වහන්සේ වදාරනවා දානය වළඳලා ඉවර වුනාට පස්සෙ විවේක තැනකට ගිහිල්ලා නිසීදත තල්ලංකං ආබුජිත්වා - පළඟක් බැඳගෙන වාඩිවෙන්න, උජුකායං පරිධාය පරිමුඛං සතිං උපට්ඨපෙත්වා - තමා ගැනම හොඳට හිත පිහිටුවාගෙන කය ඍජු කරගෙන වාඩි වෙන්න. සෝ අභිංජං ලෝකෙ පහාය විගතා විජ්ජේන චේතසා විහරත - මේ සිත කෙලෙසලා දාන අවිද්‍යාව ලෝභය, ලෝභයෙන් හිත පිරිසිදු කරගන්න. අලෝභයෙන් හිතක් උපදවාගෙන වාසය කරන්න. නීවරණ දුරු කිරීම, කාමච්ඡන්දය දුරු කර කර වාසය කරන්න. ව්‍යාපාද පදෝසං පහාය අව්‍යාපන්නො විහරත සබ්බ පානුභූත හිතානුකම්පී - ව්‍යාපාදය කියන දෝෂයෙන් හිත නිදහස් කරගෙන අව්‍යාපාදව මෛත්‍රී සහගත හිතක් සියලු සතුන් කෙරෙහි හිතානුකම්පී බවක් ඇතිව ඉන්න. ථීනමිද්ධං පහාය විගත ථීනමිද්ධො විහරත ආලෝක සඤ්ඤෙ සතොසම්පජානො - නිදිමත අලසකමින් බැහැර වෙලා නිදිමතක් අලසකමක් නැතිව හොඳ ප්‍රමුදිත හිතකින් ආලෝක සංඥාව උපදවාගෙන වාසය කරන්න, ථීනමිද්ධයෙන් හිත පිරිසිදු කරගන්න. ඊළඟට උද්ධච්ච කුක්කුච්ඡය බැහැර කරලා අනුද්ධතො විහරත - හොඳ සංසිඳිච්චි හිතකින් වාසය කරන්න, උද්ධච්ච කුක්කුච්ඡයෙන් විසිරීමෙන් පසුතැවීමෙන් හිත පිරිසිදු කරන්න. විචිකිච්ඡං පහාය තින්න විචිකිච්ඡො විහරත අකතං කථී කුසලේසු ධම්මේසු - විචිකිච්ඡාවෙන් බැහැර වෙලා සැක කිරීම් අත්හැරලා විචිකිච්ඡාවක් නැතිව විචිකිච්ඡාව කියන අකුසලයෙන්, සැකය කියන අකුසලයෙන් හිත පිරිසිදු කර කර වාසය කරන්න කියනවා ශ්‍රද්ධාව තුල. ඔන්න ඔහොම වාසය කරනකොට ඔය විදියට වාසය කරද්දි භික්ෂුවක් අනුපිළිවෙල ප්‍රතිපදාවේ හික්මුනා. ඔහු නීවරණයන්ගෙන් හිත බැහැර කරගන්නවා. නීවරණයන්ගෙන් හිත බැහැර කරගනිද්දී, නීවරණ වලින් බැහැර වෙච්චි හිත පළවෙනි ධ්‍යානයක් ලබනවා. දෙවෙනි ධ්‍යානයත් ලබනවා,

තුන්වෙනි ධ්‍යානයත් ලබනවා, හතරවෙනි ධ්‍යානයත් ලබනවා. එහෙමනම් බලන්න පින්වතුනේ කොච්චර ලස්සනයිද කියලා මේ ප්‍රතිපදාව. ඔය විදියට ධ්‍යාන සැප උපදවාගත්තට පස්සෙ ඒ ධ්‍යානය තුළ පිහිටලා විදර්ශනා කරන භික්ෂුව තමයි සියලු කෙලෙස් ප්‍රහාණය කරන්නේ කියලා බුදුරජාණන් වහන්සේ දේශනා කලා. ඕක තමයි අනුපිළිවෙල ප්‍රතිපදාව ශාසනයේ. හැබැයි ඔය ප්‍රතිපදාව ඔය විදියට තිබුනාට ඔය ප්‍රතිපදාවේ ගමන් කිරීම පිණිස මහා පින් බලයක් ඕන. හරියට කැලෙන් අල්ලා ගෙන එන සියලු අශ්වයෝ දමනය කරන්න බැනෙ. ඒ වගේම හැමදෙනාටම දමනය වීමේ හැකියාව නෑ. හැමදෙනාම ඒකට දක්ෂ නෑ, ඒකට පින ඕන. පින තියෙන කෙනාට උපදින යම් කෙනෙකුට පින් තියෙනවා නම් පින් තියෙන කෙනාට උපදින විශේෂ ගුණයක් තියෙනවා, ඒ මොකක්ද ඒ පින් තියෙන කෙනාට උපදින විශේෂ ගුණය? ශ්‍රද්ධාව. බලවත් ශ්‍රද්ධාව. නොසෙල්වෙන ශ්‍රද්ධාව. කාටවත් වෙනස් කල නොහැකි ශ්‍රද්ධාව. කිසිවෙකුටත් ලෝකයේ අභිමි කළ නොහැකි ශ්‍රද්ධාව. ඒකමයි පින්වතුනි පින් තියෙන කෙනෙකුට පිහිටන දේ. මොකද ශ්‍රද්ධාවත් එක්ක තමයි වැඩපිළිවෙල තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ ඔය පැහැදිලි නිවන් මග දේශනා කලාම මොග්ගල්ලාන බමුණා හරී සතුටු වුනා. සතුටු වෙලා බමුණා අහනවා ස්වාමීනී දැන් ඔබ වහන්සේ හරි ලස්සනට මේ නිවනට යන වැඩපිළිවෙල දේශනා කලානෙ. ස්වාමීනී හරි පුදුම සහගතයි, මේ වැඩපිළිවෙල හරිම පිළිවෙලයි. එය ශ්‍රවණය කරනකොට අපිටත් හිතෙනවා ඒකාන්ත කොට මේ මාවතේ නම් නිවනක් කරා යන්න පුලුවන් කියලා. ඉතින් ස්වාමීනී මේ පෙනෙන්න ඉන්න සියලු භික්ෂූන් නිවන් දැකපු අයද කියලා ඇහුවා. බුදුරජාණන් වහන්සේ වදාළා නෑ බ්‍රාහ්මණ, හැමෝම නිවන් දැකලා නෑ. ඇතැම්හු නිවන් මගේ හික්මෙමින් ඉන්නවා. ඇතැම්හු නිවනට පත්වෙලා ඉන්නවා. ඇතැම්හු නිවන කරා ඇදෙන්නෙ නෑ කිව්වා. එතකොට ඔන්න ආයෙම මොග්ගල්ලාන බමුණාට සැක උපදිනවා. බමුණා අහනවා ස්වාමීනී, ඒක හරි පුදුම කතාවක්නෙ. මාර්ගය පෙන්වා දීම පිණිස ඔබවහන්සේත් ඉන්නවා. පැහැදිලි පිළිවෙලක් ඇති මාර්ගයකුත් තියෙනවා. නිවනකුත් තියෙනවා. එහෙම එකේ ස්වාමීනී කොටහක් යන්නත්, කොටහක් නොයන්නත් හේතුව? බුදුරජාණන් වහන්සේ වදාළා බ්‍රාහ්මණ ඔහේට තේරෙන විදියට මං අහන්නම්, ඔහේ පිළිතුරු දෙන්න. ඔහේගෙන් කවුරුහරි ඇහැව්වොත් එහෙම රජගහ ඉදලා සැවැත්නුවරට යන පාර, ඔහේට පුලුවන්ද මංසලකුණු කියන්න? කිව්වා ස්වාමීනී පුලුවනි. ඔහේගෙන් මංසළකුණු අහගන්න එක පුරුෂයෙක් ඔහේ කියපු පාරේම

යනවා. ඔහු සැවැත්නුවර ඉඳලා රජගහනුවරට යයිද නැද්ද, කිව්වා ස්වාමීනී යනවා. ඔහේගෙන් පාර අහගන්න මනුස්සයෙක් ඔහේ කියපු එක අමතක කරලා ඒ මිනිහට ඕන පාරෙ යනවා, පාර වරද්දගන්නවා, ඔහුට රජගහනුවරට යන්න පුලුවන් වෙයිද, බැරිවෙයිද? ස්වාමීනී බෑ. ඒක හරි පුදුම කතාවක්නෙ බ්‍රාහ්මණය, රජගහනුවරකුත් තියෙද්දි, සැවැත්නුවර ඉඳලා රජගහනුවරට පිළිවෙලකට හදපු පාරකුත් තියෙද්දි රජගහනුවරට යන්න පාර කියන්න ඔහෙත් ඉද්දි එක මිනිහෙක් යන්නත්, එක මිනිහෙක් නොයන්නත් හේතුව මොකක්ද? කිව්වා ස්වාමීනී, ඒක මට අදාළ එකක් නෙවෙයි. මම කලේ පාර කියන එක පමණයි. මං පාර කිව්වා. මං කියපු පාරේම යන කෙනාට ගමන යාගන්න පුලුවන්. මං කියපු පාර ගැන පැහැදීමක් නැත්නම් ඒ පුද්ගලයා පාර වරද්දගන්නවා, ඒකට මං මොනවා කරන්නද? බුදුරජාණන් වහන්සේ වදාළා ඒව මේවකො බ්‍රාහ්මණ - බ්‍රාහ්මණ මේ ගැනත් එහෙමයි තේරුම් ගන්න ඕන. ඉට්ඨතේව නිබ්බාණං - නිවන තිබෙන්නේමය. තිට්ඨති නිබ්බානගාමී මග්ගො - නිවන පිණිස සංසිඳීම පිණිස මාවත තිබෙන්නේය. තිට්ඨා මහං සමාගතේ හිතා - නිවන් මගේ සමාදන් කරවන ශාස්තෘන් වහන්සේ වන මමද වැඩ සිටිමි. අතච පන මම සාවකා මාඒවං ඕවදීමානො ඒවං අනුශාසිය මානා අප්පේ කච්චේ අච්චන්ත නිට්ඨං නිබ්බානං ආරාධෙන්ති - ඉතින් මම මේ භික්ෂූන්ට අවවාද අනුශාසනා කරනකොට ඇතැම් භික්ෂූන් නම් ඒකාන්ත කොට අත්‍යන්ත වශයෙන්ම නිවන කරා යනවාමයි. ඒකච්ඡෙ නාරාදෙන්ති - හැබැයි ඇතැමුන්ට යාගන්න බැරිවෙන්නේය. එත්ථ ක්‍යාහං බ්‍රාහ්මණ කරොමි - බ්‍රාහ්මණය මං ඒකට මොනවා කරන්නද. මග්ග කය්හං බ්‍රාහ්මණ තථාගතො - බ්‍රාහ්මණය තථාගයන් වහන්සේ කරන්නේ පාර කියන එක පමණි. රජගහනුවරට පාර කිව්වා වගේ. බුදුරජාණන් වහන්සේ නිවනට පාර කිව්වා. ඒ භාග්‍යවතුන් වහන්සේ දේශනා කරන ලද මාවත රහතන් වහන්සේලා ප්‍රමුඛ මහසඟරුවන විසින් පිරිසිදුව ආරක්ෂා කලා. ඒ ආරක්ෂා කරලා දායාද කරපු ධර්මයයි අපිට ඉතිරි වෙලා තියෙන්නෙ. තාම මාර්ගය තියෙනවා. ඒ මාර්ගයේ ප්‍රතිපදාවේ ශ්‍රද්ධාව උපදාගෙන යන්න දක්ෂකම පින් බලය තම තමාට තියෙන්න ඕන එකක්. එතකොට මේ ධර්ම මාර්ගය තුළ ශාස්තෘන් වහන්සේ පෙන්වාදෙන වැඩපිළිවෙලේ යන්න දක්ෂකමක් මහා පිනක් අර වඩ්ඩ කියන භික්ෂූන් වහන්සේට තිබුනා. ඒ භික්ෂූන් වහන්සේට අම්මා කිව්වානෙ පුතේ වඩ්ඩ, ඔයා මේ දුක් අවසන් කිරීම පිණිස පුහුණු වෙන්න. ඒ ඉසිවරුන් පුරුදු කරපු මාර්ගයේම යන්න කියලා. ඉසිවරු පුරුදු කරපු මාර්ගය තමයි මේක. සීලය,

ඉන්ද්‍රිය සංවරය, ආහාරයේ පමණ දැන වැළදීම, ජාගරියානුයෝගය, සතිසම්පජඤ්ඤය ඊළඟට නීවරණ වලින් හිත බැහැර කර කර, බැහැර කර කර හිත පිරිසිදු කිරීම. පිරිසිදු වූ සිතින් ධ්‍යාන සමාධි උපදවා විදර්ශනා කොට නිවන පසක් කිරීම. ඉතින් මේක තමයි ප්‍රතිපදාව, ඒ ප්‍රතිපදාවේ මේ වඩ්ඩ කියන තෙරුන් වහන්සේත් ගමන් කලා. අම්මේ ඔයා මට ධර්මය කියාදෙන්නේ විශාරද කෙනෙක් විදියට. මගේ අම්මේ ඇත්තෙන්ම ඔයා තුළ කෙලෙස්වනයක් දැකගන්න නෑ. වඩ්ඩමාතාව ගාථා කියනකොට වඩ්ඩ කියන භික්ෂුව ඒ ගාථා අනුමෝදන් වුනා. එතකොට වඩ්ඩමාතාව කියනවා වඩ්ඩ ලාමක උසස් මධ්‍යම කිසිම සංස්කාරයක් ගැන අනුවක ප්‍රමාණයකවත්, අනුමාත්‍රයක ප්‍රමාණයකවත් තණ්හාවක් මං තුළ නෑ. මං අප්‍රමාදීව ධ්‍යාන වැඩුවා. අප්‍රමාදීව ධ්‍යාන වැඩුවා කියලා කියන්නෙ පින්වතුනි ධ්‍යාන වඩන තැනට ප්‍රමාද වෙන්නැතිව තමන්ගේ ජීවිතය හැඩගස්වාගත්තා. නිකං එකපාර ධ්‍යාන උපද්දගත්ත එකක් ගැන නෙවෙයි මේ කියන්නෙ. ධ්‍යාන උපදින තැනට ජීවිතේ හදාගන්න ඕන, සිල්වත් වෙන්න ඕන, ඉඳුරන් සංවර කරගන්න ඕන, ආහාරයේ පමණ දැන වළඳන්න ඕන, නිදිවරාගෙන භාවනා කරන්න හුරුවෙන්න ඕන. එකින් එක පුරුදු කරන්න ඕන. ඒ පුරුදු කරන ලද හිතේ තමයි ධ්‍යාන උපදින්නෙ. දැන් මගේ සිතේ තිබුනු ඔක්කොම ආශ්‍රව නිවිලා ගියා. ත්‍රිවිද්‍යාව ලබාගත්තා, බුදුසසුන සම්පූර්ණ කරගත්තා. ඉතින් මව්භික්ෂුණියගෙන් මේ අවවාද ලැබුනාට පස්සේ වඩ්ඩ භික්ෂුවත් අප්‍රමාදී වුනා. අනුක්‍රමිකව ගුණ වැඩුවා, රහතන් වහන්සේ නමක් බවට පත්වෙලා මෙන්න මේ ගාථා කිව්වෙ. ඇත්තෙන්ම මගේ අම්මා ඒ කිව්වෙ ශ්‍රේෂ්ට වචනයක්මයි. මහත් අනුකම්පාවෙන් උතුම් අර්ථ ඇති අවවාද මට කලා. අම්මා කියාදුන්නු උතුම් වචන අසා දැනගත්තා. ඒ අනුශාසනාවේම මං පිහිටියා. නිවන් අවබෝධ කරගැනීම පිණිස සංවේග උපදවාගත්තා. දිවා රෑ දෙකේ මං ගොඩාක් මහන්සි වුනා. දිවි දෙවෙනි කොට ධර්මයේ හැසිරුණා. ධර්ම සංවේගය මා තුළ උපදවාගත්තා. ධර්ම සංවේගය උපදවාගත්තා කියලා කියන්නෙ, ඒකෙන් අදහස් කරන්නෙ, ඒ උත්තමයන් වහන්සේ ධර්මය තුළින් ලැබිය යුතු ඵලය සාක්ෂාත් කලා. ධර්මය විසින් ලබාදෙන ඵලය මොකක්ද පින්වතුනි? එයට කියනවා අමත ඵල. අමෘත ඵලය. නිර්වානය, නිවන්සුවේ සැනසුනා. ඔන්න ඔය විදියට මේ ශාසනේ අසිරිය අම්මාත් නිවනේ සැනසුනා, ආදර පුතාත් නිවනේ සැනසුනා. බුද්ධ ශාසනය නිසා. නැත්නම් මේ මව්පුතු සම්බන්ධය නිසා සාංසාරික ගමනක් දිගින් දිගට ඇදෙන එකයි වෙන්නෙ. නමුත් බලන්න බුදුසසුනේ අසිරිය. අම්මා කෙනෙක් තමන්ගේ ආදර පුතාට නිවන්

දැකීම පිණිස කල්‍යාණමිතුරිය බවට පත්වුනා. අවසානයේ ඒ වඩ්ඩ තෙරුනුත් නිවන් සුවයේ සැනසුනා. අපි ඉද ඉගෙන ගත්තෙ වඩ්ඩමාතා අර්හත් තෙරණියගේ ගාථා. ඒ වඩ්ඩ මාතා අර්හත් තෙරණියටත්, වඩ්ඩ කියන මහරහතන් වහන්සේටත් නමස්කාර කරමින් අපිත් අධිෂ්ටාන කරමු අපිට මේ දුර්ලභ බුදුසසුන මුණගැහිච්ච මනුස්ස ජීවිතේ නිදුකින් සුවසේම දහම් මග දියුණු කරගන්න ජීවිතේට බොහෝ සේ උපකාර වන පින් දහම් රැස් කරගන්න, කල්‍යාණමිත්‍ර ඇසුරේ දහම් මගේ හැසිරී චතුරාර්ය සත්‍යය අවබෝධයෙන් ලබන රහතුන් සැනසුන රහත් උත්තමාවියන් සැනසුනු අමා නිවනේ සැනසෙන්න අපි හැමදෙනාට වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!!

රැස් කල සියලු පුණ්‍ය ධර්මයන් සියලු දෙවියෝ සතුටින් අනුමෝදන් වෙත්වා, පින් අනුමෝදන් වන දෙවිවරු දිව්‍ය සැපයෙන් වැඩෙත්වා, ඒ හැමදෙවියන්ගේ ආශිර්වාද රැකවරණ අප හැමදෙනාට දෙවියෝ සළසත්වා, දෙවියෝද සසර දුකින් අතමිදෙත්වා. සාදු සාදු සාදු!!! ගුරුදේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට පින් අනුමෝදන් වෙත්වා. නිදුක් නිරෝග සුව සැලසෙත්වා, දීර්ඝායුෂ සැලසෙත්වා, ගෞතම ශාසනය තුළම උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන් අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කල සියලු පුණ්‍ය ධර්මයන් ධර්ම දානය සිදු කරන පින්වතුන්ලා බලාපොරොත්තු වෙන ආකාරයන් පළල්පිටියේ අනගාරිකා අසපුවේ වැඩසිටින පින්වත් ලොකුමෑණියන් වහන්සේ ඇතුළු සියලු මෑණියන් වහන්සේලාටත් ඒ උපාසක උපාසිකාවන් හැමදෙනාටත් පින් අනුමෝදන් වෙලා ඒ මෑණියන් වහන්සේ ඇතුලු සියලුම මෑණියන් වහන්සේලාටත්, ඒ උපාසක උපාසිකාවන් හැමදෙනාටත් සුවසේ දහම් මග දියුණු කරගන්නටත් ගෞතම ශාසනයේ ධර්මාවාබෝධයෙන් සැනසෙන්නටත් වාසනාව ලැබෙත්වා කියලා අපි පින් අනුමෝදනාව සිදු කරමු. රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයෝ එච්.පී. සිරියාවතී මෑණියන්ගේ නමින් මියපරලොව යන්නට යෙදුනු එච්.පී. පීටර් පියාණන්ට සහ එස්.පී. සිසිලින් මෑණියන්ට අනුමෝදන් වෙත්වා. අයි.පී. විජං පියාණන්ගේ නමින් මියපරලොව ගිය අයි.පී. ජේම්ස් පියාණන්ට සහ එච්.පී. කන්චිනා මෑණියන්ට පින් අනුමෝදන් වෙත්වා. මියපරලොව ගිය ඊ.ආර්. ධර්මරත්න බණ්ඩා පියාණන්ට සහ උපතිස්ස වල්ගම පියාණන් ඇතුලු නමින් මියගියා වූ සියලු ඥාතීන්ට පින් අනුමෝදන්ව ඥාතීන්ගේ පරලොව ජීවිත සැපයටම පත්වෙත්වා. අපගේ ඥාතීන් මේ දුක් සහිත වූ සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින්

අනුමෝදනාව සිදු කරන්න. අයි.පී. බුද්ධික රොෂාන් පුතණුවන්ට, ඊ.ආර්. දමයන්ති ධර්මරත්න ලේලියට, අයි.පී. සන්ධ්‍යා දිල්ශානි දියණියට සහ රොෂාන් වල්ගම බෑණාට, සුපහන් ධර්මප්‍රිය, සුලක්ඛණ සුභාෂ්වර සහ, සදෙව් මෙත්සර යන ඒ මුණුපුරන්ට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා. අද දවසේ දායකත්වයන් දරනු ලැබූ මාතර උඩඅපරැක්ක මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ ශ්‍රද්ධා ධර්මදාන සාමාජික පින්වත් එච්.පී. සිරියාවතී මෑණියන්ටත්, අයි.පී. විජං පියාණන්ටත් මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙලා සුජීවත්ව සිටින සහෝදර සහෝදරියන් ඇතුළු ඥාති හිතමිත්‍රාදීන් හැමදෙනාටත් පින් අනුමෝදන් වෙලා, ඒ ධර්ම දානය සිදු කරපු පින්වතුන්ලා හැමදෙනාගේ සියලු කටයුතු, රැකී රක්ෂා ආදිය, ඒ දූදරූ මුණුපුරු මිණිපිරියන්ගේ අධ්‍යාපන කටයුතු ආදිය, සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා. තවදුරටත් ජීවිතයට බොහෝ පින් රැස් කරගන්න ඒපින්වතුන්ලාට අවකාශ ලැබෙත්වා. කල්‍යාණ මිත්‍ර ඇසුරේ ගුණධර්ම දියුණු කරගෙන මේ ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්නට වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. මාතර උඩඅපරැක්ක මහමෙව්නා භාවනා අසපුවේ වැඩහිඳින ඒ පූජනීය මහාසඟරුවනට, මහාමෙව්නාවාසී රටලෝක වාසී සිල්ගුණ දම් පුරන උතුම් මහසඟරුවනට පින් අනුමෝදන් වෙලා මහාසඟරුවන අමා නිවනේ සැනසේවා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් ධර්ම දානය සිදු කරපු පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා මාසික ධර්මදාන සාමාජික පින්වතුන්ලාටත්, සුපින්වත් ඔබ සෑම සියලුදෙනාටත්, ශ්‍රද්ධා කාර්යමණ්ඩලයේ හැමදෙනාටත් අනුමෝදන්ව සියලු දෙනාට ගෞතම ශාසනයේ සුවසේම ධර්මාවබෝධ කරන්න අවකාශ ලැබෙත්වා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=lAes3QwPKjs

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු මේ උතුම් ධර්ම දේශනා මාලාවේ අද දවසේ අපි අහන ධර්මය මේ බුද්ධ ශාසනයේ අග්‍ර ශ්‍රාවිකාවක් බවට පත්වෙච්චි අගතනතුරු ලැබූ භික්ෂුණියක් ගැන. මේ බුදුසසුනේ ඇය අගතනතුරු දැරුවා රළු සිවුරු දරන භික්ෂුණීන්ට අග්‍ර භික්ෂුණිය ලෙස. හැබැයි බුද්ධ ශාසනයේ පැවිද්දට පෙර ඈ ජීවිතේ ගොඩාක් දුක්වින්ද කෙනෙක්. දුක් උහුලාගන්න බැරිව උමතු බාවයට පත්වෙලා හිටපු කෙනෙක්. ඒ උමතුබාවයෙන් නිදහස් වෙලා ජීවිතේ පරම ශාන්තිය වූ සැනසිල්ලට ඇයට එන්න පුලුවන් වුනේ ලොව්තුරා බුදුරජාණන් වහන්සේගේ බුදුසරණ ලැබුනු නිසා. කිසාගෝතමී අර්හත් උත්තමාවිය, අද අපි අහන්නේ ඒ උත්තමාවිය ගැන. අද ධර්ම දේශනාවට දායකත්වයන් දරනවා මිනුවන්ගොඩ මනෝජ් ඉලෙක්ට්‍රිකල් ආයතනයේ පින්වත් මනෝජ් ගයාන් වික්‍රමාරච්චි මහත්මා ඇතුලු ඒ පින්වතුන්ලා. විශේෂයෙන් මියපරලොව ගිය ගාමිණී අබේසේකර වික්‍රමාරච්චි පියාණන්ටත් මාස තුනකට පෙර හදිසි අනතුරකින් මියගිය අමිල සංජීව බාලසූරිය පුතණුවන්ටත් පින් අනුමෝදනාව පිණිස අද ධර්ම දානය ඒ පින්වතුන්ලා සිද්ධ කරන්නෙ. ජීවිතේ කියන එකේ පින්වතුනි අහිමිවීම, අනිත්‍ය වී යන ධර්මයට මුහුණ දෙන්න සිද්ධවීම මේ හැමදෙනාටම උරුම එකක්. අහිමි වීම කියන එක නම් මේ ජීවිතේ උරුමයක්. අහිමිවීම කියන එකට අපි හැමදෙනාම සූදානම් වෙලා ඉන්න ඕන. මොකද ජීවිත යාත්‍රාව ඉස්සරහට යන්න යන්න අපිට අහිමිවීම් මයි තියෙන්නෙ. ඒ අහිමිවීම් ඉස්සරහා ගුටිකන්නේ නැති, පිස්සු හැදෙන්නේ නැති, සැනසිල්ලේ ජීවිතයට මුහුණ දෙන්න පුලුවන් හිතක් ධර්මය හරියට ඉගෙනගත්තොත් ධර්මය හරියට ගලපාගත්තොත් උපදවාගන්න පුලුවන් වෙයි. ඒක හොදට තේරෙනවා මේ කිසාගෝතමී කියන රහත් තෙරණියගේ චරිතාපදානය අහනකොට. මේ චරිතාපදානය අපගේ බණ පොත් වල ආරම්භ වෙන්නෙ පදුමුත්තර බුද්ධ ශාසනයේ ඉදන්, මීට කල්ප ලක්ෂයකට ඈත ඒ බුද්ධ ශාසනයේදී තමයි ඈ අගතනතුරු ප්‍රාර්ථනා කලේ. රළු සිවුරු දරන භික්ෂුණීන් අතර අග්‍ර භික්ෂුණිය බවට පත්වෙන්න ලැබේවා කියන ප්‍රාර්ථනාව. ඒ ප්‍රාර්ථනාව සහිතව සංසාර

ගමනේ පින් පුරාගෙන පැමිණිලා මේ බුද්ධ කාලයේ ඇය උපන්නෙ සැවැත් නුවර. සැවැත් නුවර ගොඩාක් ධනසම්පත් නැති පවුලක ඇය උපන්නෙ. ඇගේ නම ගෝතමී. සාමාන්‍යයෙන් ශරීර ප්‍රමාණයෙන් කෙට්ටු ස්වභාවයක්ම තිබිලා තියෙනවා කුඩා අවධියේ පටන්. ඒ හින්දා ඒ ගෝතමී කියන නමට තව කොටසක් එකතු වුනා කිසාගෝතමී. කිසාගෝතමී කියලා කිව්වෙ කෙසඟ කියන අදහස, කෙට්ටු ගෝතමී. මේ ගෝතමී අවුරුදු 16 වයසට පත්වෙනකොට දාසය හැවිරිදි භද්‍ර යෞවන වයසේ හිටපු තරුණියට ඉතාම ධනවත් කුලයක විවාහ වෙන්න ලැබුනා. ඒක වුනේ හරි අපූරු සිද්ධියක්. වෙනස්ම විදියේ සිද්ධියක්. සාමාන්‍යයෙන් අපිට අහන්න නොලැබෙන විදියේ සිද්ධියක්. මෙහෙම සිද්ධිත් ලෝකෙ වෙනවාද කියලා හිතෙන සිද්ධියක්. හතළිස් කෝටියකට වඩා මහා ධනසම්පත් ඇති සිටුවරයෙක් හිටියා ඔය සැවැත්නුවර. ඒ සිටුතුමාගේ නිවසේ යම්තාක් ධනසම්පත් තිබුනාද ගබඩාවල එක දවසක් මේ ගබඩා වල දොරටු ඇරලා බලද්දි ගබඩා වල තිබූ රන් රිදී මුතු මැණික් ටික අඟුරු. ඔක්කොම ගබඩා, සම්පූර්ණයෙන්ම අඟුරු වලින් පිරිලා. අර ධනය මොකද වුනේ. නිකං සාපයක් වැදුනා වගේ එකක්. එතකොට මේ සිටුතුමාට මොකක්ද මේ වුනේ කියලා හිතාගන්න බැරිව ගියා. දැන් සාමාන්‍යයෙන් පින්වතුනි එහෙම නස්පැත්තියක් වුනොත් එහෙම ඒ මනුස්සයා මේ නස්පැත්තිය වුන එකේ අගක් මුලක් මොකක්ද කියලා හොයන එකක් හෝ මේක මේ විශ්වාස කරන්න පුලුවන් එකක් ද කියලා හොයන එකක් හෝ එහෙම එකකට නෙවෙයිනෙ පෙළඹෙන්නෙ. ඒ මනුස්සයාට ඕන ප්‍රශ්නය විසඳගන්න. දැන් මේ සිටුතුමා ඔළුවේ අත් බැඳගෙන නොයෙක් දන්න කියන අය ගාවට ගියා මේකට පිළියමක් හොයන්න. ඒ කාලෙ ඉඳලා තියෙනවා ඔය වාගෙ ඒවා වුනාම පිළියම් දෙන ඇයො. ඉතින් මොකක් හරි ශිල්පයක් තියෙන්න ඇති. ඒ ශිල්පයෙන් මේකට පිළියමක් කිව්වා. පිළියම මොකක්ද, අඟුරු ටික ඔක්කොම පටවගෙන අරන් යන්න කිව්වා වෙළෙඳසැලට. වෙළෙඳසැලට අරගෙන ගිහිල්ලා වෙළෙඳසැලේ අඟුරු ගොඩගහගෙන රන් විකුණනවා රන් විකුණනවා කියලා කියන්න කිව්වා. එතකොට එන මිනිස්සු ඔක්කොම ඔයාට මේ මොන විකාරද, මේ පිස්සුද මේ අඟුරු තියාගෙන රන් විකුණනවා කියන්නෙ, එහෙම කිය කිය යයි. හැබැයි යම් කෙනෙක් ඇවිල්ලා ඔබෙන් ඇහුවොත් එහෙම අනේ ඕගොල්ලො ඇයි මේ රත්තරන් විකුණන්නේ කියලා ඒ කෙනාට මොකුත් නොකියා කියන්න කිව්වා, ආ එහෙනම් ඔබ ඒ රත්තරන් කියූ දේවල් අපිට අරගෙන දෙන්න. ඈ එතකොට ඔය අඟුරු වෙච්චි ටිකට අත් තියනකොටම වස්තුව ටික තිබුනා වගේම රන් රිදී

මුතු මැණික් බවට පත්වෙයි කියලා කිව්වා. මේක තමයි පිළියම දීපු. මේ සිටුතුමාට කරකියාගන්න දෙයක් නැතිව හිටපු වෙලාවේ මේක මහා පිළිසරණක්. සේවකයොත් එක්ක එකතු වෙලා කරත්ත වල පටවගෙන අරගෙන ගියා අර අඟුරු ටික ඔක්කොම සැවැත් නුවර වෙළෙඳසැලට. දැන් එකතැනක තියාගෙන විකුණනවා, මොනවද විකුණන්නෙ රත්තරන්. රත්තරන් කිව්වට ගොඩගහලා තියෙන්නෙ අඟුරු. එන එන මනුස්සයා බැන බැන යනවා, බැනුම් අහ අහා සෑහෙන්න වෙලාවක් විකුණුවා. අවුරුදු දාසයේ කිසාගෝතමී එදා වෙළෙඳසැලට ඇවිල්ලා. ඈ මේ අඟුරු විකුණන තැනට එනකොට ඈට මේවා අඟුරු විදියට පේන් නෑ. ඈට පේනවා රන් ගොඩ ගහලා තියෙනවා, කරත්ත වලත් රත්තරන්. ඈ අර මනුස්සයගෙන් දුවගෙන ඇවිල්ලා ඇහුවා අප්පේ මෙච්චර වස්තුව, මෙච්චර රන් රිදී, ඕගොල්ලො ඇයි මේ රන් රිදී විකුණන්නෙ? ඕගොල්ලන්ට වැඩි වෙලාද? එතකොට සිටුතුමාට හරි සතුටක් ඇතිවුනා. සිටුතුමා කිව්වා, ආ එහෙනම් දුව, දූ දැකපු ඒ රත්තරන් අපිට දෙන්න දූගෙ අතින්. කිසාගෝතමී අර අඟුරු වලට අත තියනකොටම ඒ අඟුරු ඔක්කොම යළිත් වස්තුව බවට පත්වුනා, රන් රිදී මුතුමැණික්. අර සාපයක් වගේ වැදිලා තිබ්බ එක සම්පූර්ණයෙන්ම නැතිව ගියා. ඒකට උදව් වුනේ කිසාගෝතමීනෙ. ඉතින් ඒක ඒ කිසාගෝතමීට ධනවත් පවුලක උපදින්නම හේතුවෙච්චි සිද්ධිය. සිටුතුමා ඇහුවා, මේ පින්වන්ත වාසනාවන්ත ලක්ෂ්මි, මේ දුව ඔයා විවාහ වෙලාද කියලා ඇහුවා. එතකොට කිව්වා අනේ නෑ කියලා. සිටුතුමාට හිටියා තරුණ පුතෙක්. ගෙවල් එක්ක කතා කරලා මේ ධනවත් සිටුකුලයට ඈව විවාහ කරගෙන කැඳවාගෙන ආවා. දැන් සිටුතුමානේ මේකෙ කතන්දරේ දන්නෙ. මෑ නිසා තමයි අහිමි වෙච්චි වස්තුව ඔක්කොම ලැබුනේ කියලා. අනිත් අයට ඒ හැඟීම නෑ. ඉතින් සිටුපවුලට ආපු වෙලාවේ ඉඳලා මෑට ඇනුම් පද. ධන සම්පත් වලින් අඩු හරි හමන් දෑවැද්දක් නැති කිසි වටිනාකමක් නැති එකියක් කියලා හැමතිස්සේම ඇනුම් පද. ධනවත් ඥාතීන්ගෙන් මෑයට ඇනුම්පද, කොන් කෙරිලි හරියට විඳෙව්වා. පින්වතුනි ඔය ප්‍රශ්නත් තියෙනවානෙ මේ ජීවිතවල. හරීයට තියෙන එකක්. සාමාන්‍යයෙන් ජීවිත වල ගත්තහම එක එක්කෙනාගෙන් ඇනුම්පද අහන්න වෙන එක, එක එක්කෙනාගෙන් කොන් වෙන්න වෙන එක, ජීවිතේ එපා වෙන්න තරම් හරි වේදනාකාර එකක්නෙ. ඉතින් ඒක විඳෙව්වා කාලයක්. ඒ විඳවිල්ල ඉවර වුනේ ඈ ගැබ් ගත්තාට පස්සෙ. ඈ ගැබ් ගන්නකොට හැමෝගෙන්ම සැලකිලි සම්මාන ආදර බස් ගලාගෙන එන්නට පටන් ගත්තා. ඈ ගැබටම ආදරේ කලා. ඈයට සැනසිල්ල උදාකරපු ගැබටම ඈ ආදරේ කලා.

දරු පැටියා බිහිවුනා, බිහිවෙනකොට හරිම ලස්සනයි. ඒ ලස්සන මල් කැකුලක් වගේ දරු පැටියාත් එක්කම ඈ හරී සන්තෝෂෙන්, දැන් ඈට කවුරු නැති වුනත් කමක් නෑ, ඈටම කියලා දරු පැටියෙක් ඉන්නවා. ඒ දරුවාත් එක්කම ඒ දරුවාගේ මූණ බල බල, ඒ දරුවාත් එක්ක හුරතල් වෙවී, ඇගේ දවසම ගතවුනා. දරුවාම ලෝකෙ වුනා. සාමාන්‍යයෙන් අම්මා කෙනෙකුට පළමුවෙන්ම හම්බවෙන දරුපැටියා අම්මා කෙනෙකුගේ හිත සම්පූර්ණයෙන් පුරවනවා. පළමුවෙනියටම හම්බෙන දරු පැටියා තාත්තා කෙනෙකුගේ හිත සම්පූර්ණයෙන් පුරවනවා. ඒ දෙන්නාගෙ ලෝකෙ බවට පත්වෙනවා. මේ කිසාගෝතමියට, ඇනුම් පද අහ අහා විඳව විඳව හිටපු මේ පවුල් ජීවිතේ ඈටම කියලා මේ ලැබිච්චි ඈත් එක්ක හිනහවෙන, ඈත් එක්ක හුරතල් වෙන ඇගේ පියවුරු වලින් කිරි උරාබොන මේ දරුපැටියා, ඇගේ ලෝකය වුනා. ඈ මේ දරුපැටියාත් එක්ක ඉන්නකොට පින්වතුනි, අනපේක්ෂිත සිදුවීම් ජීවිතයට එනවා කියන එක මේ ලෝකයේ යමක් දරුණුයි කියලා කියනවා නම් ඒ දරුණු දේවල් අතර අතිශයින්ම දරුණු දේ අනිත්‍යය, වෙනස්වී යාම. මේ අනිත්‍යය ධර්මය නිසා පින්වතුනි ලෝකෙ හැමදේම වෙනස් වෙනවානෙ. මේ වෙනස්වීම නිසා පින්වතුනි අපිට ජීවිත වල කොච්චර විඳවන්න සිද්ධ වෙනවාද. කිසාගෝතමියටත් ඒකම වුනානෙ. කිසාගෝතමියගේ ආදර දරු පැටියා, ටිකෙන් ටික වැඩිලා ඒ දරු පැටියා මල් කැකුලක් වගේ මෝරමින් ඉද්දි අනපේක්ෂිත විදියට ඒ දරුවා අසාධ්‍ය වුනා. රෝග මූලයක් හොයාගන්න බැරි ලෙඩක් දරුවාට වැළඳුනා. දවස් දෙකයි තුනයි ඒ දරුවා හදිසියේම කාලක්‍රියා කලා. ඇය දරුවාට කොච්චර ආදරය කලාද කියන්නෙ දරුවා මැරුණා කියලා විශ්වාස කරන්න ඇය කැමැති වුන් නෑ. දරුවා මැරුණා අනේ ඉතින් මොනවා කරන්නද කියලා ගෙදර ඥාතීන් අඬනකොට ඇය කියනවා නෑ නෑ මගේ පුතා මැරිලා නෑ, එයා මගෙත් එක්ක තරහ වෙලා, මගේ පුතා ආයෙම මගෙත් එක්ක යාළු වෙයි. ඈ මේ දරු පැටියාගේ මූණ මිරිකමින් කට මිරිකමින් කියනවා අනේ මගේ පුතේ මාත් එක්ක හිනාවෙන්න කලින් වගේ. ඒ ලතැවුල්ල ඒ වේදනාව ඇයව පිස්සියක් බවට පත් කලා. ඥාතීන් සූදානම් වුනා මේ දරුවාව ආදාහන කටයුතු කරන්න අරගෙන යන්න, ඈ කැමැති වුන් නෑ. දරු පැටියාවත් තුරුල් කරගෙන ඈ ගෙදරින් පැනලා දිව්වා. ඥාතීන්ට දරුවා ගන්න බැරි විදියට ඈ හැංගුනා. දැන් ඇය පාරක් පාරක් ගානෙ යනවා මේ දරු පැටියාව වඩාගෙන ඈට ඕන දරුවාව සුවපත් කරගන්න වෙදෙක්. අනේ මගේ පුතා කලින් වගේ මගෙත් එක්ක කතා කරන්න ඕන, මගේ පුතා මගෙත් එක්ක කලින් වගේම

හිනාවෙන්න ඕන. එයා මගෙන් කිරි බොන්න ඕන. එයාගේ මේ ලස්සන හිනාව මට ආයෙමත් බලන්න ඕන. මගේ පුතාව ආයෙ හිටියා වගේ තත්වෙට පත්කරලා දෙන්න මට, මගේ පුතාව හොඳ කරලා දෙන්න, ඒකට සුදුසු වෙදෙක් මට හොයලා දෙන්න කියලා මේ මළකඳ ඔසවාගෙන කිසාගෝතමී පාරක් පාරක් ගානෙ දවස් දෙකක් තුනක් යන්න පටන් ගත්තා. දවස දෙක යනකොට මේ මෘත ශරීරය ගඳ ගහන්න පටන් ගන්නවා. ඇයට ගඳ දැනෙන් නෑ. තමන්ගේ ආදර දරුවානෙ. තුරුල් කරගෙන ඈ අඬ අඬා පාරක් පාරක් ගානෙ යනකොට මිනිස්සු ගන්දස්තාරෙ නිසා ඇයට බනිනවා. ඇතැම් මිනිස්සු සාප කරනවා, මේ පිස්සියක් කියලා. සමහරු කාරලා කෙල ගහනවා. මේ මහා ගිනි මැද ඈ ඇවිදගෙන යනකොට ඇව දකිනවා එක උපාසකයෙක්. ඒ උපාසකයාට අනුකම්පාවක් හටගත්තා. අයියෝ මේ යෞවන වයසේ ඉන්න මේ නැගණියට, මේ කාන්තාවට මේ ජීවිතේ ඇත්ත ස්වභාවය ගැන තේරුම් ගන්න බැරිවෙලා. මැව සුවපත් කරන්න තියෙන එකම ක්‍රමය ජීවිතේ ඇත්ත කියාදෙන එක. අපිට ජීවිතේ ඇත්ත කියාදෙන්නේ අපගේ බුදුරජාණන් වහන්සේ. එහෙනම් මේ නැගණියටත් සුවය දෙන්නෙ ඒ මගේ බුදුරජාණන් වහන්සේ කියලා හිත උපන්නා. ඒ උපාසක මහත්තයා කිව්වා. නැගණිය ඔයාගේ ඔය දරුපැටියාව සුවපත් කරන්න පුලුවන් වෙද මහත්තයෙක් මං දන්නවා. ඒ මහා වෛද්‍යාචාර්යවරයා අන්න අර වෙහෙරේ වැඩ ඉන්නවා කියලා බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න දිසාව පෙන්නුවා. බුදුරජාණන් වහන්සේ නොවේද පින්වතුනේ මේ ලෝකෙ මහා වෛද්‍යවරයා. ඒ බුදුරජාණන් වහන්සේ තමයි සියලු රෝග නසන ධර්මය මේ ලෝකයට දේශනා කලේ. බුදුරදුන්ට වඩා වැඩි වෛද්‍යවරයෙක් මේ ලොවේ නැත්තේය. මේ සත්වයාගේ ජීවිත වලින් වයසට යෑම කියන රෝගය සුවපත් කල බුදුරජාණෝ ලෙඩවීම කියන රෝගය සුවපත් කල බුදුරජාණෝ, මරණය කියන රෝගය සුවපත් කල බුදුරජාණෝ, ශෝක වැළපීම් දුක් දොම්නස් කියන මේ සියලු රෝග සුවපත් කල බුදුරජාණෝ ලෝකයේ මහා ශල්‍යවෛද්‍යවරයාණෝ. ඒ භාග්‍යවතුන් වහන්සේ ළඟට මේ කිසාගෝතමී දුවගෙන යනවා. දුවගෙන ගිහිල්ලා මිනිස්සු බණ අහමින් ඉද්දි අර දුර්ගන්ධ හමන මළකඳ භාග්‍යවතුන්වහන්සේ ළඟ තැබුවා. තබලා කියනවා ස්වාමීනී මගේ පුතා අසනීප වෙලා, ඔබවහන්සේට පුලුවන්ද මගේ පුතාව සුවපත් කරලා දෙන්න? දැන් ඈ විකල් වෙච්චි තැනැත්තියක්. භාග්‍යවතුන් වහන්සේ ඇයට කියනවා, ගෝතමිය මට පුලුවන් ඔබේ දරුවාව සුවපත් කරන්න, ඔබේ දරුවා පමණක් නොවෙයි මේ ලෝකෙ හැමදෙනා සුවපත්

කරන්න, ඔබවත් සුවපත් කරන්න. ගෝතමී ඔබ යන්න, මේ දරුවා වෙනුවෙන් ඔබ අබ මිටක් අරගෙන එන්න. හැබැයි ගෝතමී ඔබ ගෙනෙනා අබ මිට, කිසිවෙක් නොමළ කිසිවෙක් මියගියපු නැති නිවසකින් ඔබ අරගෙන එන්න. මේ බුදුරජාණන් වහන්සේ මේ උපක්‍රමය යෙදුවේ භාග්‍යවතුන් වහන්සේ මේ උපක්‍රමය යෙදුවේ ගෝතමියට මේ උපක්‍රමයෙන් ගෝතමීගේ මුලා වූ සිහිය යළි උපදින නිසා. ගෝතමී දරුපැටියාව වඩාගෙන අර හිතේ වේදනාව අමතක කරලා සන්තෝෂයෙන් අබ මිටක් හොයාගෙන යනවා. හැම නිවසකම අබ මිට තියෙනවා, අබ මිටක් ඉල්ලගන්න පුලුවන් වුනා හැම නිවසකින්ම, ඒත් කවුරුත් මැරිච්ච නැති නිවසක්? මියපරලොව ගියපු කිසිවෙක් නැති නිවෙසක්? එහෙම නෑ. ඈට ටිකක් දුර යනකොටම තේරෙන්න ගත්තා මගේ පුතා මැරිලා. මගේ පුතා විතරක් නෙවෙයි මේ ලෝකෙ මැරෙන්නෙ. හැමෝටම ප්‍රිය අය අහිමි වෙලා, හැමෝටම ආදරය කරන අය අහිමි වෙලා. හැමෝගෙම තමන්ගේ ලෝකය සුවපත් කරපු අය අහිමි වෙලා. තමන්ගේ ලෝකය ලස්සන කරපු අය අහිමි වෙලා. ප්‍රියයන්ගෙන් වෙන් වීමේ දුක මේ ලෝකයේ තිබේ. අනිත්‍ය ධර්මය මේ ලෝකෙ තිබේ. ඈටම තේරුනා. ඈ ඒ දරුවාගේ මළකඳ ඔසවාගෙන යනවා සොහොනට. සොහොනේ මළකුණ දාලා ඈ මෙහෙම අදහසක් කිව්වා. නගාම ධම්මො න නිගමස්ස ධම්මො - මේක ගමකට නියම් ගමකට අයිති ධර්මතාවක් නෙවෙයි. න චාපයං ඒකකුලස්ස ධම්මො - මේක එක පවුලකට එක කුලයකට අයිති ප්‍රශ්නෙකුත් නෙවෙයි. සබ්බස්ස ලෝකස්ස සදේවකස්ස ඒසෝග ධම්මො යදිදං අනිච්ඡතා - දෙවියන් සහිත මේ ලෝකෙ හැමදෙනාටම මුහුණ දෙන්න සිද්ධ වෙන ඒ බිහිසුණු ධර්මය අනිත්‍යතාවයයි. වෙනස් වෙලා යනවා. වෙනස් වීම. අපේක්ෂා කරන දේ සිදු නොවීම. අනපේක්ෂිත ප්‍රශ්න කඩා වැටීම, අනිත්‍ය වීම. ආදරේ කරන අය අනිත්‍ය වෙනවා. ආදරේ කරන දේවල් අනිත්‍ය වෙනවා. හිමි කරගන්න කැමැති දේවල් අනිත්‍ය වෙනවා. තමන් ළඟතියාගෙන ඉන්න කැමැති දේවල් අනිත්‍ය වෙනවා. අනිත්‍ය කියලා කියන්නෙ දෙව් මිනිස් ලෝකයටම තියෙන පොදු ධර්මයක් කියලා ඈම කිව්වා. මේ ජීවිතේ ගැන අවබෝධය, මේ ජීවිතේ ගැන වැටහීම ඈ ලැබුවාට පස්සෙ පියවි සිහිය ඇති කෙනෙක් විදියට ඈ ආයෙමත් එනවා භාග්‍යවතුන් වහන්සේ ළඟට. බුදුරජාණන් වහන්සේ ළඟට පැමිණිලා කිව්වා ස්වාමීනී ඔබවහන්සේ ඇත්තෙන්ම මාව සුවපත් කලා. ඔබවහන්සේ තමයි සියලුදෙනාවම සුවපත් කරන මහා ශල්‍යවෛද්‍යවරයා. ස්වාමීනි මට ධර්මය කියන්න. භාග්‍යවතුන් වහන්සේ ඒ වෙලාවේ කිසාගෝතමියට ධර්මයක් වදාළා. තං පුත්ත පසෝ

සම්මත්තකො බ්‍යාසත්ත මනසං නරං සුත්තං ගාමං මහෝ ගොහමච්ඡුවාදාය ගච්ඡති - ගෝතමී සමහර උදවිය තමන්ගේ දූදරුවන් ගැන තමන්ගේ සතා සිව්පාවා ගැන හිතින් බැඳිලා ඒකටම මත්වෙලා කල් ගෙවනවා. ජීවිතේ කියන්නෙ ඒවා කියලා හිතනවා. දූදරුවෝ තමයි තමන්ගේ ජීවිතේ, ඥාතියො තමයි තමන්ගේ ජීවිතේ, මේ එකට ඉන්න අය තමයි තමන්ගේ ජීවිතේ කියලා මෙහෙම හිතනවා. එහෙම නැත්නම් හුරතලුන් ඇති කරලා ඒ හුරතල්ලු තමයි තමන්ගේ ජීවිතේ කියලා හිතනවා. හැබැයි අන්තිමේදී මාරයා ඇවිදින් ඔවුන්ව මරණය කරා ගෙනියන්නෙ සැඩ වතුර පහරක් විසින් නිදිගත් ගමක් මුහුදට ගහගෙන යනවා වගේ. අන්තිමේට මරණය කියන එක ඒ අයගේ ජීවිතේ කරා පැමිණෙනවා කියනවා දන්නේවත් නැතිව. දන්නේවත් නැතිව ඇවිල්ලා ජීවිතේ අනතුරේ හෙලනවා හරියට නිදිගත්ත ගමක් මේ සැඩපහරකට ගසාගෙන යනවා වගේ. ගමම නිදි, දන්නෙත් නෑ, නින්දෙන්ම මරණයට යනවා. බොහෝ දෙනෙකුගේ ජීවිත ගත්තත් මේ නිදාගෙන ඉද්දි සැඩපහරකට අහුවෙලා ගියා වගේ ජීවිතේ ගැන මොකුත් වැටහීමක් නෑ. ඔහේ ජීවත් වෙලා ඔහේ මැරිලා යනවා. ඉතින් මේ ගාථාව අවසන් වෙනකොට, මේ පද හතර අවසන් වෙනකොටම ඈ සෝතාපන්න ඵලය සාක්ෂාත් කලා. ඈ අවබෝධ කලා, ධර්මාවබෝධය ලැබුවාට පස්සෙ ඈ කියනවා ස්වාමීනී භාග්‍යවවතුන් වහන්ස, මේ ධර්මය අතිශයින්ම සුන්දරයි. ස්වාමීනී ඔබවහන්සේ මට නැණපහන් දැල්වූවා. ඔබවහන්සේගේ සසුනේ මා හටත් පැවිද්ද ලැබේවා. උපසම්පදාව ලැබේවා. ඈ පැවිදි වුනා, උපසම්පදා වුනා, වීර්යයෙන් දහම් මග හැසිරුණා. වීර්යයෙන් ධර්මයේ හැසිරෙනකොට, ඒ වීර්යයෙන් ධර්මයේ හැසිරෙන ඇයගේ සිත යම් මොහොතක ධර්මාවබෝධයට සුදුසු ආකාරයෙන් සකස් වෙනවාද, ඒ මොහොතේ අපගේ මහා කාරුණික ශාස්තෘන් වහන්සේ දකිනවා, දැකලා මේ කිසාගෝතමියට ඇහෙන විදියට ආලෝක ධාරාවක් විහිදුවලා බුදුරජාණන් වහන්සේගේ ස්වරයෙන් ගාථාවක් වදාළා. යෝ චෙ වස්සසතං ජීවෙ නපස්සං අමතං පදං ඒකාහං ජීවිතං සෙයයා පස්සතො අමතං පදං - යම් කෙනෙක් ඒ අමා නිවන අවබෝධ නොකොට අවුරුදු සීයක් ජීවත් වෙනවාට වඩා ඒ අමා නිවන අවබෝධ කරගෙන එකම එක දවසක් ජීවත් වීමත් ශ්‍රේෂ්ටයි. ශ්‍රේෂ්ට දේ මොකක්ද, වටිනා දේ මොකක්ද, අර්ථවත් දේ මොකක්ද? ධර්මය අවබෝධ කිරීම. ඇගේ හිත බලවත්ව පිහිටියා. ඒ ගාථාව අවසන් වෙලා ටික වෙලාවකින් සියලු කෙලෙස් නසලා කිසාගෝතමී අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. ඒ කිසාගෝතමී රහත් තෙරණිය කල්‍යාණමිත්‍ර ඇසුරක් නිසාමනේ පින්වතුනි

සැපයට පත්වුනේ. නැත්නම් පිස්සියක් වගේ මැරිලා යන්න හිටපු කෙනෙක්. කළණමිතුරු ඇසුරක් නිසා ඇ ජීවිතේ සම්පූර්ණයෙන්ම සුවයට පත්වුනා. ඉතින් ඇ කල්‍යාණ මිත්‍ර ඇසුර වර්ණනා නොකර සිටීවිද. ඇගේ ථෙරී ගාථාව කල්‍යාණමිත්‍ර ඇසුර වර්ණනා කරන එකක්. බලන්න ඒ උත්තමාවී කියපු ගාථා. කල්‍යාණමිත්තතා මුණිනා ලෝකං ආදිස්සවන්නිතා - අපගේ මුණිදුන් කල්‍යාණමිත්‍ර සේවනය වර්ණනා කලේ ලෝකයේ යහපත පිණිසමයි. කල්‍යාණමිත්තෙ භජමානො අපිබාලො පන්ඩිතො අස්ස - කල්‍යාණමිත්‍රයන් ඇසුරු කරන මෝඩ තැනැත්තා පවා නුවණැත්තෙක් වෙනවා. කල්‍යාණමිත්‍රයෙක් ඇසුරු කරන්න ලැබුනොත් මෝඩ තැනැත්තෙකුට පවා නුවණැත්තෙක් වෙන්න පුලුවන්. වටින්නේ කල්‍යාණ මිත්‍ර ඇසුරමයි. කල්‍යාණමිත්‍රයා හරියට අඳුනාගැනීම, කල්‍යාණමිත්‍රයා ගෞරවයෙන් ඇසුරු කිරීම, ඒකමයි ජීවිතේ යහපත. භජිතබ්බා සප්පුරිසා පඤ්ඤා තථා වඩ්ඩති භජංතානං - ආසුය කරන්න ඕන සත්පුරුෂයන්වමයි, සත්පුරුෂයන්ගේ ආශ්‍රයෙන්මයි ප්‍රඥාව වැඩෙන්නෙ. සත්පුරුෂයන් ආශ්‍රය කරන කෙනා සියලු දුකින් නිදහස් වෙනවා. සියලු දුකින් නිදහස් වෙච්චි සත්පුරුෂ ආශ්‍රයේ මහිමය ප්‍රත්‍යක්ෂයෙන් දැනගත්ත උත්තමාවියක් මේ කියන්නෙ. කල්‍යාණමිත්‍රයොමයි ඇසුරු කරන්න ඕන කියනවා, කල්‍යාණමිත්‍රයො ඇසුරු කලොත් එහෙම සත්පුරුෂයාගේ ඇසුර නිසා තමයි කියනවා ප්‍රඥාව වැඩෙන්නෙ. බලන්න ප්‍රඥා හීන භාවයට පත්වෙලා මෝඩියක් පිස්සියක් විදියට පාරක් පාරක් ගානෙ ඇවිදපු කෙනාට ප්‍රඥාව ලැබුනානෙ, මහාසත්පුරුෂ රත්නය බුදුරජාණන් වහන්සේ ඇසුරු කරලා. ඊළඟට සත්පුරුෂ ආශ්‍රය නිසාමයි කියනවා කෙනෙක් සියලු දුකින් නිදහස් වෙන්නෙ. හැම දුකකින්ම නිදහස්. ඒ මහා සත්පුරුෂ රත්නය වන බුදුරජාණන් වහන්සේ මුණගැසීම නිසා කොයිතරම් රහතන් වහන්සේලා මේ ලෝකෙ බිහිවුනාද, කොතරම් අර්හත්වයට පත්වුනාද. ඒ සියලු දෙනා දුකින් නිදහස් වුනේ ඒ මහා සත්පුරුෂ රත්නය නිසා. කොයිතරම් අර්හත් තෙරණිවරු මේ ලෝකෙ බිහිවුනාද, ඒ සියලුදෙනා වහන්සේ අර්හත්වයට පත්වුනේ ඒ මහා සත්පුරුෂ රත්නය නිසා. සත්පුරුෂ ආශ්‍රය තියෙන කෙනා දුක අවබෝධ කරගන්නවා. දුකේ හටගැනීම ප්‍රහාණය කරනවා. දුකේ නැතිවීම සාක්ෂාත් කරනවා. ආර්ය අෂ්ටාංගික මාර්ගය දියුණු කරගන්නවා. චතුරාර්ය සත්‍යය අවබෝධ කරනවා. අපි ආසයි චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න. චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්න කැමැති කෙනා එහෙනම් මොකක්ද කළයුත්තේ? සත්පුරුෂයා ආශ්‍රය කිරීම. සත්පුරුෂයා ආශ්‍රය කරන

කෙනා තමයි චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්නෙ. එයා දුක අවබෝධ කරනවා, දුකේ හටගැනීම ප්‍රහාණය කරනවා, දුක්ඛ නිරෝධය වන නිවන සාක්ෂාත් කරනවා, ආර්ය අෂ්ටාංගික මාර්ගය වඩනවා, සත්පුරුෂ ආශ්‍රය තියෙනවානම්. පුරිසධම්මසාරථී වූ බුදු සමිඳුන් වදාළේ ගැහැණියකගේ ජීවිතය දුක් සහිතයි කියලා. බුද්ධ දේශනාවේ භාග්‍යවතුන් වහන්සේ නොයෙක් ආකාරයෙන් පෙන්වනවා. ස්ත්‍රී ජීවිතයේ තියෙන දුක. අපි මේ ධර්ම දේශනා මාලාවේදීත් ආවේණික දුක්ඛ සූත්‍රය, ස්ත්‍රියකට විතරක් ආවේණික දුක් ගැන කතා කලා. ස්ත්‍රීන්ට තියෙනවා බොහෝ දුක් විඳින්න සිද්ධ වෙන අවකාශ. ඒ නිසා භාග්‍යවතුන් වහන්සේ ඒ මහා කාරුණිකයන් වහන්සේ වදාළා ගැහැණියකගේ ජීවිතය හරි දුක් සහිත එකක්. එක ස්වාමියකු යටතේ සමාන බිරිඳන් වශයෙන් සිටීමත් දුකක්. ඇතැම් ස්ත්‍රීන්ට ඇතැම් සමාජ සංස්ථා තුළ ඇතැම් තියෙන ජනවර්ග වල සම්මුතියේම තියෙනවා එක ස්වාමිපුරුෂයාට බිරින්දෑවරු කීප දෙනෙක් ඉන්න පුලුවන්. එතකොට ස්වාමියෙකුගේ ආදරය තනියෙන් ලබාගන්න බැරිව යනවා. තව බිරින්දෑවරුත් එක්ක ඉන්න සිද්ධ වෙනවා. ඒකත් බොහොම දුක් සහිත දෙයක්. ඇතැම් කාන්තාවන් එක වතාවයි දරුවන් වදන්නෙ. එක වතාවක් දරුවො වැදුවාට පස්සෙ එක්කො දරුවො වදන එක නවතිනවා, එහෙම නැත්නම් දරුවො වදන්න බැරි බවට පත්වෙනවා. සමහර වෙලාවට එක වතාවක් දරුවො වදනකොට ඇතැම් කාන්තාවො මියපරලොව යනවා. මේ ජීවිතේට එන වේදනාවල් ඉවසගන්න බැරිව ඇතැම් කාන්තාවො බෙල්ල කපා ගන්නවා. ඒ කාන්තාවො කියලා කියන්නෙ හිත ගොඩාක් ශක්තිමත් අය නෙවෙයි. ඒ ශක්තිමත් නැති නිසාම ජීවිතේ වේදනා එනකොට ඒගොල්ලො තමාවම නසාගන්න තීරණය කරනවා කියනවා. වේදනා ඉවසගන්න බැරිව බෙල්ල කපා ගන්නවා. ඒ සියුමැලි කාන්තාවො වහකාලා මැරෙනවා. සමහර විට මව්කුසේ දරුවා හිරවෙලා දෙන්නමත් මැරෙනවා, එහෙම අවස්ථාත් සිදුවෙනවා, ..ගර්භවීම්. දරුවො හිරවෙලා කාන්තාවකටම විඳවන්න වෙන මහා දුක්ගිනි. ආවේණික දුක්ඛ සූත්‍රයේදී බුදුරජාණන් වහන්සේ දේශනා කලා කාන්තාවකටම වෙන් වෙච්චි දුකක් කියනවා ප්‍රසූත වේදනා. දරුවො වදන්න විමේ වේදනාව. මේ දරුවො වදන වේදනාවත් අතිශයින්ම දුක් සහිතයි. ඒ අතිශයින්ම කර්කශ වේදනාව ඊට වඩා තියුණු වෙනවා දරුවො හිරවුනොත් එහෙම. දරුවො හිරවෙලා සමහර වෙලාවට දරුවයි අම්මයි දෙන්නම මියපරලොව යනවා කියනවා, මේ කාන්තාවකගේ ජීවිතේ තියෙන දුක් ගිනි. හැබැයි මෙහෙම දුක් ගිනි වලින් බැට

කකා බැට කකා මැරිලා යන කාන්තාවො බුදුරජාණන් වහන්සේගේ සරණට පැමිණිලා සැපයට පත්වුනා. ඒ නිසා සත්පුරුෂ ආශ්‍රයමයි වටින්නෙ. සත්පුරුෂ ආශ්‍රයෙන්මයි සැනසිල්ල. ඒ කිසාගෝතමී අර්හත් තෙරණියට පස්සෙ කාලෙක අර්හත්වයට පත්වුනාට පස්සෙ පටාචාරා භික්ෂුණියව හමුවෙනවා. මේ පටාචාරා භික්ෂුණියත් එක්ක යම් සුහද කතාවක් ඇතිවුනා. ඒ සුහද කතාවේදී සමහර වෙලාවට කිසාගෝතමී උත්තමාවිය තමන්ගේ ඒ ගිහි ජීවිතයේ වෙච්ච් දුක්ගැහැට ටික කියන්න ඇති. ඒ වෙලාවේ පටාචාරා භික්ෂුණිය තමන්ට වෙච්ච දුක්ගැහැට ටික කිව්වා. ඒ ගැනත් මේ ථෙරීගාථාවේ සඳහන් වෙනවා. බබා හම්බවෙන්න ළඟ බව මටත් තේරුනා. ඉතින් මං ගෙදර යන්න පිටත් වුනා. ගෙදර යන්න ලැබුනෙ නෑ, අතරමග දීම මට මගේ දරුවා හම්බුවනා. අතරමගදීම මගේ සැමියාත් මැරිලා ඉන්නවා දකින්න ලැබුනෙ. අපි මේ පුවත ඉගෙන ගත්තානෙ. එකම දවසක එකම මොහොතක මේ ටික වුනානෙ පින්වතුනේ. දරු පැටියා හම්බවෙලා දරුවා හම්බුවීමේ සතුට විඳින්න බැරිව ගියා, ස්වාමියා මිය පරලොව ගියා. ස්වාමියා මහපාරේ මැරිලා. ස්වාමියා වෙනුවෙන් අවසන් කටයුත්තක් වත් කරගන්න බැරිව ගියානෙ. කොච්චර මිනිස්සුන්ට මෙහෙම අසරණ කම් එනවාද. දැන් මේ කාලෙ ගත්තත් ඔය කොරෝනා ප්‍රශ්නෙත් එක්ක අපිට ඉන්දියාවෙන් අහන්න ලැබෙනවා, බොහෝම ශෝචනීය සිද්ධි. සමහර වෙලාවට තමන් ආදරය කරපු ඥාතියා මියපරලොව යනවා. ඔහු වෙනුවෙන් පිළිවෙලකට අවසන් කටයුත්තක් කරගන්න විදියක් නෑ. ඔහුගේ අවසන් කටයුතු ගෞරවාන්විත විදියට කරගන්න විදියක් නෑ. අන්ත අසරණ වෙනවා මිනිස්සු. දුකට පත්වෙලා හිටිය වෙලාවේ මගේ දරුවො දෙන්නාත් මලා. ස්වාමියා මැරිච්චි දුක උහුලගෙන කොහොමහරි දරුපැටව් දෙන්නා නිසා සතුටු වෙවී ආවා. ගංඟාවේදි දරු පැටව් දෙන්නත් මියපරලොව ගියානෙ. අවසානයේ සැමියාත් මලා, දරුවො දෙන්නත් මලා, අම්මයි තාත්තයි සහෝදරයයි තුන්දෙනාත් එකම දර සෑයේ දැවෙනවා මට දකින්න ලැබුනා. පිහිටක් පතාගෙන දුක කියන්න කියලා ඥාතියෙක් හොයාගෙන එනකොට අම්මයි තාත්තයි මේ ලෝකෙ තමන්ට හිටපු සහෝදරයයි කියන මේ තුන්දෙනාම එකම දරසෑයක දැවෙනවා. ඔක්කොම නැතිව ගියානෙ. ඉතින් ඒ සිද්ධියත් මේ කිසාගෝතමී තෙරණියට පටාචාරාවගෙන් අහන්න ලැබුනා. මේවා ඉගෙන ගන්නකොට පින්වතුනේ මේ ජීවිතේක ඇත්ත ස්වභාවය, ජීවිතේ කියන එක අපි මේ සිහින ලෝක මවාගෙන අමුතු ලෝකයක් තුළ ජීවත් වෙන්න උත්සාහවත් වෙනවානෙ. ගොඩාක් මාධ්‍ය

ආදියෙන් අපිට මවලා දෙන්නෙත් එහෙම ලෝකනෙ. ඒ මවලා දෙන ලෝක කොච්චර නිසරු හිස් දේවල් ද කියලා තේරෙනවා ජීවිත වල දුක්ගැහැට ගැන හරියට අහනකොට. දැන් මේ පටාචාරා භික්ෂුණියට සිද්ධ වෙච්චි සිදුවීම, කිසාගෝතමියට සිද්ධ වෙච්චි සිදුවීම, මීට වඩා සිද්ධි අද වෙන්නැද්ද. මීට වඩා බිහිසුණු ඒවා වෙනවා. මීට වඩා බිහිසුණු මීට වඩා කර්කශ, මීට වඩා කටුක, මීට වඩා ශෝචනීය එහෙම සිද්ධි සිද්ධ වෙනවා. ඔය නායයෑම් අවස්ථා වල අපිට මුණගැහුන එක තරුණ යුවලක් ඒ දෙන්නා මේ නායයෑම සිද්ධ වෙන වෙලාවෙෝ දරු පැටව් දෙන්නා මැදි කරගෙන ඒ දෙන්නා නිදාගෙන හිටියේ. දරුවො දෙන්නට අවුරුදු අට, දහයක් වගේ. දරු පැටව් දෙන්නා මැද නිදි, දෙපැත්තේ මහදෙන්නා නිදි. මේ නායයෑම් අවස්ථාව වෙනකොට එහෙන් මෙහෙන් සද්ද ඇතිවුනා, මේ සද්ද මොනවාද කියලා බලන්න දරු පැටව් දෙන්නා ඇහැරුනොත් ඒ දෙන්නට පව්නේ කියලා දරුවො ඇහැරවන්නැතිව මේ අම්මයි තාත්තයි දෙන්නාට පාරට බැස්සා පොඩ්ඩක් ගෙයින් එළියට බැස්සා මොකක්ද මේ ප්‍රශ්නෙ කියලා බලන්න. ගෙයින් එළියට බැස්සා විතරයි ගේ කඩාගෙන ගියා. තමන්ට තුරුල් වෙලා නිදාගෙන හිටපු දරු පැටව් දෙන්නාගේ උණුසුම තමන්ගේ ඇඟෙන් අයින්වෙන්න කලින් ඒ දරුවෝ මහපොළොවේ වැළලුනා. ඉතින් මෙහෙම සිදුවීම් කොච්චර පින්වතුනි මේ ලෝකෙ වෙනවාද. ඉතින් ඔය විදියට මේ කිසාගෝතමී භික්ෂුණියගේ ජීවිතේ ඈ පටාචාරා භික්ෂුණිය සමඟ කතාබහ කරලා ඒ උතුම් භික්ෂුණීන් වහන්සේලා ඇසුරු කරලා බොහෝම සුන්දර ජීවිතයක් මේ බුද්ධ ශාසනය තුළ ඈය ගත කළේ. ඈ රළු සිවුරක් පොරවපු කෙනෙක්. ඒ රළු සිවුරක් පොරවන්න හේතුව නම් අපේ බණ පොත් වල සඳහන් වෙන්නෑ. රළු සිවුරක් පෙරවූ නිසා ඈ අගතනතුරු ලැබුවා, මේ බුදුසසුනේ රළු සිවුරු දරන භික්ෂුණීන්ට අග්‍ර. කිසාගෝතමී අර්හත් උත්තමාවිය ඔය විදියට උතුම් පැවිදි ජීවිතයක් ගත කරලා අර්හත් උත්තමාවිය විදියට පිරිනිවෙන්න සූදානම් වෙනකොට අනිත් භික්ෂුණීන් වහන්සේලාට වීර්යය ඉපැද්දවීම පිණිස, සම්බුද්ධ ශාසනයේ පිළිසරණ තේරීම පිණිස ඒ උත්තමාවිය තමන් වහන්සේ ගැනම මෙන්න මේ ගාථා වදාළා. සම්පත් නැති වෙලා ගිය දුප්පත් පවුලක උපන් තැනැත්තී, ඔයා අප්‍රමාණ දුක් විඳපු කෙනෙක්. සංසාරේ දහස් ගණන් උපන් වාර වලදී ඔයා තුළ තිබුනේ කඳුළුමයි. ඒ කිව්වේ තමන් ගැනම. තමන් ගැනම ඒ උත්තමාවිය කියනවා මේ සාංසාරික ගමන එනකොට කඳුළුම හෙල හෙලා ආවා, මේ ජීවිතේ දුප්පත් පවුලක උපන්නා. අප්‍රමාණ දුක් වින්දා. සංසාරේ ගෙවද්දී සොහොන් වල වාසය කලා. තමන්ගේම දරුවන්ගේ

මස් කෑවා. දැන් මේ කියන්නෙ මොකක්ද පින්වතුනි, මේ සාංසාරික ගමනේ එනකොට ඇතැම් ජීවිත වල සොහොන් වල උපදිනවා සිගාලයො වෙලා, සුනඛයො වෙලා, නොයෙක් සත්තු වෙලා සොහොන් වල උපදිනවා. ඊළඟට භූත, ප්‍රේත, පිසාච වෙලා සොහොන් වල උපදිනවා. ඊළඟට තමන්ගේම දරුවන්ගේ මස් කනවා. ඔබ දැකලා ඇති බළල්ලු එහෙම තමන්ගේම දරුවන්ගේ මස් කනවා. ඊළඟට සංසාර ගමනේ ඇතැම් ජීවිත ලබනවා, හැමෝම එළවගන්නවා. දැන් බලන්න ඔය දඩාවතේ යන බල්ලො යන යන තැනක ගුටි කනවානෙ, හැමෝම එළවනවා. කොච්චර මේ සාංසාරික ගමනේ අපි එහෙම ඉන්න ඇත්ද. මිනිස්සු එළවන, මිනිස්සුන්ගෙන් ගුටි කන, ඊළඟට ඇතැම් මිනිස්සු ඉන්නවා, උමතු. ඒ උමතු මිනිස්සුත් ගෙවල් වලට එනකොට ගෙවල් වලින් පන්නගන්නවා. කොච්චර මේ ජීවිත වෙලා ඇත්ද. පවුල් සහමුලින්ම විනාශ වුනා. ඇතැම් ජීවිත වල පවුල් පිටින්ම විනාශ වෙලා තනිවෙනවා. දැන් ඔය සුනාමි ව්‍යසනය ආදී ආවාම එහෙම සිද්ධවුනානෙ. සතුටින් හිටපු, සැපසේ හිටපු පවුල්. එකමොහොතකින් දියරළකට පුලුවන් වුනා විනාශ කරලා දාන්න. එහෙම සිද්ධි වෙනවා. සැමියා මැරුණා. ඔය විදියට නොයෙක් විදියේ ගුටිකාගෙන ආවත් බලන්න අවසානයේ වදාරන දේ. නමුත් මමත් නිවන් දැක්කා. එහෙම දුක් ගැහැට විඳ විඳ ආපු කෙනත් අවසානයේ නිවන් දැක්කා. නිවන් දැක්කේ කුමක් නිසාද, මහාසත්පුරුෂ රත්නය වන බුදුරජාණන් වහන්සේ මුණගැසීම නිසා. අමා නිවනට මාර්ගය වූ ඒ ආර්ය අෂ්ටාංගික මාර්ගයමයි මං වැඩුවේ. නිවන සාක්ෂාත් කරගත්තා. මං මේවා ඔක්කොම දහම් කණ්ණාඩියෙන් බලනවා. මේ දුක් ගැහැට විඳ විඳ ආපු ජීවිතේ සැපයට පත්වුනේ ධර්මය නිසා කියන එක දහම් කණ්ණාඩියෙන් බලනවා කියනවා. කලින් තියෙන ජීවිතෙයි, දැන් තියෙන ජීවිතෙයි අපිට බලන්න බැරිද කණ්ණාඩිය ළඟට ගිහිල්ලා. අපි කලින් මෙහෙම හිටියා, දැන් මෙහෙම වෙලා. කලින් කොණ්ඩේ කළුවටම තිබුනා, දැන් එහෙන් මෙහෙන් සුදු වෙලා. අපිට බැරිද බලන්න. කලින් එකත් එක්ක ගලප ගලප බලන්න පුලුවන්. කලින් නම් මං මීට වඩා සුදට හිටියා. දැන් නම් ටිකක් කළු වෙලා. කලින් හම හොඳට බැබළී බැබළී තිබුනා, දැන් ටික්ක වැහැරිලා. අපි එහෙම බලනවා නේද, ධර්මය කියන කණ්ණාඩියෙන් බලන්නෙ කොහොමද. කලින් මං ගොඩාක් දුක් වින්දා, දැන් මං නිවන් සැප විඳිනවා. කලින් මං ගොඩක් කරදර කම්කටොළු මැද හිටියා, දැන් මං ධර්මයේ සැප විඳිනවා. එහෙමයි ඒ උත්තමාවිය බැලුවේ අපිට උනත් බැරිද පින්වතුනි බලන්න? අපිට වුනත් අපි කලින් ගත කරපු ජීවිතේ දැන් අපි ධර්ම

දානය දෙනවා. අපි කලින් ගත කරපු ජීවිතේ අපි නොයෙක් වල්පල් කතා කලා. දැන් ධර්මය කතා කරනවා. අපි කලින් ගත කරපු ජීවිතේ අපි කයින් නොයෙක් දේ කලා. දැන් අපි කයකින් සිල් රකිනවා. අපි කලින් ගතකරපු ජීවිතේ අපි ලෝභකම් කලා. දැන් අපි දන් දෙනවා. මෙහෙම එකින් එක බලන්න. ඉතින් දහම් කණ්ණාඩියෙන් ජීවිතේ දිහා බලනවා කියන්නෙ අන්න ඒක. මං දැන් ඒ ශෝක හුල් ඔක්කොම උදුරලා දැම්මා. කෙලෙස් බර පැත්තකින් තිබ්බා. කළයුතු දේ කරගත්තා, මේ දේවල් කියන්නෙ කෙලෙස් වූ නිදහස් වුනු සිතක් තියෙන කිසාගෝතමී තෙරණියයි. අන්න ඒ විදියට තමයි කිසාගෝතමී අර්හත් උත්තමාවිය තමන් වහන්සේගේ ථෙරීගාථා අවසන් කලේ. ඒ උත්තමාවිය ඔය විදියට අනිත් භික්ෂුණීන්ට අවවාද කරලා පිරිනිවන් පා වදාළා. ඉතින් පිරිනිවනට වැඩිය ඒ කිසාගෝතමී අර්හත් තෙරණියටත් නමස්කාර කරමින් අපිත් පින්වතුනි අධිෂ්ඨාන කරන්න ඕන අපේ ජීවිතේ, අපිට මෙහෙම නිර්මල බණ පද අහන්න ලැබුනේ ලොව්තුරා බුදුරජාණන් වහන්සේ නමකගේ ශාසනය මුණගැහිච්ච් නිසා. ඒ සම්බුද්ධ ශාසනය මුණගැහීම හේතු කරගෙන ජීවිතයකට යම් සැපයක් උපදවාගන්න පුලුවන් ද, ඒකට අවකාශය, අපිටත් උදාවෙලා තියෙනවා. ඒ අවකාශය කවදාවත් මේ ජීවිතයේ අපිට ලැබෙන දුක්ගැහැට වලින් වළක්වන්න පුලුවන් එකක් නෙවෙයි. දැන් බලන්න කිසාගෝතමී තෙරණියගේ චරිතාපදානය ගත්තොත් එහෙම හරියට ඇගේ ගිහිජීවිතේ ගැන බලපු කෙනෙකුට තේරෙන්නෙ මහා කාලකණ්ණි ජීවිතයක් විදියට. අවාසනාවන්ත ජීවිතයක් විදියට. පටාචාරා භික්ෂුණියගේ ජීවිතය ගත්තොත් එහෙම මහා කාලකණ්ණි, දෙමව්පියන්ට දඩබ්බර වෙච්චි, ඔහේ නිකං ඇවිස්සිල්ලට තරුණ වයසේදීම කොල්ලෙක් එක්ක පැනලා ගියපු, ඒ ගිහිල්ලා දරු දෙන්නෙකුත් හදාගෙන ඒ දරු දෙන්නාගෙ සෙනෙහස ලබන්නවත් බැරිව විනාශ වෙලා ගිහිල්ලා, මහා අවාසනාවන්ත එකියක් විදියටයි පටාචාරා භික්ෂුණියගේ ජීවිතය බැලුවත් පේන්නෙ. අපි සාමාන්‍යයෙන් ගිහි ජීවිතත් එක්ක සැසඳුවොත් එහෙම පටාචාරවගෙයි, කිසාගෝතමීයගෙයි අපේ ජීවිත වල එහෙම ප්‍රශ්න නෑ. අපේ ජීවිත වල අපිට එච්චර අවාසනාවන්ත අත්දැකීම් වලට මුහුණ දෙන්න සිද්ධ වෙලා නෑ. එහෙම අවාසනාවන්ත කාලකණ්ණි විදියේ ජීවිතත් මහා සත්පුරුෂ රත්නය වන බුදුරජාණන් වහන්සේගේ සරණ ලබාගෙන සැපයට පත්වුනා නම්, සර්වප්‍රකාරයෙන්ම සැපයට පත්කරගන්න පුලුවන් වුනා නම්, අපිට අපේ ජීවිතයට සැපයක් උදාකරගන්න, සැනසිල්ලක් උදාකරගන්න, යහපතක් සළසගන්න ඒකාන්ත වශයෙන් මේ බුදුසසුන තුළ

පුලුවන්. ඒ නිසා හොඳට බුදුසරණ ලබන්න ඕන, හොඳට ධර්මයේ සරණ ලබන්න ඕන, හොඳට මේ අර්හත් උත්තමාවියන්ගේ චරිතාපදාන අහ අහා ඒවා ගැන හිත පහදව පහදව සඟ සරණ ලබන්න ඕන. මේ තෙරුවන් සරණ තුළින් තමයි පින්වතුනි අපිටත් යම් දවසක ජීවිතේ පරිපූර්ණ වශයෙන්ම සනසවගන්න ලැබෙන්නෙ. පටාචාරා භික්ෂුණිය ගත්තත් පදුමුත්තර බුදුරජුන්ගේ ශාසනයේ ඉඳන් පින් පුරාගෙන තෙරුවන් සරණ ගිහින් ධර්මයේ හැසිරෙමින් ආපු කෙනෙක්. කිසාගෝතමී අර්හත් උත්තමාවිය ගත්තත් පදුමුත්තර ශාසනයේ ඉඳලා ධර්මයේ හැසිරෙමින් පින් පුරාගෙන ආපු කෙනේ. ඉතින් ඒ ශාසන වල යම් කැපවීමකින් ධර්මයේ හැසිරුනා ද, ඒ ශාසන වල යම් කැපවීමකින් පින් රැස් කලාද, ඒවා ප්‍රතිවිපාක දුනනේ, ඒවාගේ ඵලවිපාක ලැබුනේ කල්ප ලක්ෂයක් ගියපු තැන. ඒකෙන් තේරුම් ගන්න තියෙන්නේ රැස් කරන පිනක් නම් කවදාවත් අපතේ යන්නේ නෑ. ඒ නිසා හොඳට පින් රැස් කරගන්න. පින් රැස් කිරීම පිණිස හොඳට හිත පිහිටුවගන්න. ධර්මයේ හැසිරීමමයි අපේ ජීවිතයට තියෙන එකම යහපත කියන එක හොඳට තේරුම්ගන්න. ධර්මයේ හැසිරෙන්න මහන්සි ගන්න, අපිට මේ කිසාගෝතමී රහත් තෙරණිය, පටාචාරා රහත් තෙරණිය ආදී ඒ උතුම් රහත් තෙරණින් වහන්සේලා නිවී සැනසුනු, මේ බුදු සසුනේ පහළ වුනු උතුම්ම රහතන් වහන්සේලා නිවී සැනසුනු අමෘත නිවනේ සැනසීම පිණිස සුවසේම ධර්ම මාර්ගය දියුණු කරගන්න අවකාශ ලැබෙත්වා, සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් සියලු දෙවියෝ සතුටින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන් වන දෙවියෝ දිව්‍ය සැපයෙන් දිව්‍ය ආශ්චර්යයෙන් වැඩෙත්වා, ඒ සියලු දෙවියන්ගේ රැකවරණ අපි හැමදෙනාට දෙවියෝ නොඅඩුවම නිරන්තරයෙන් සළසා දෙත්වා. දෙවියෝ ද සංසාර දුකින් අතමිදෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. ගුරු දේවයන් වහන්සේ නිදුක්ව නීරෝගීව දීර්ඝායුෂ ලබත්වා, මේ ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරගනිත්වා. සාදු සාදු සාදු!!! රැස් කරගන්න යෙදුනා වූ සියලු පුණ්‍ය ධර්මයන් මනෝජ් ගයාන් වික්‍රමාරච්චි මහත්මයාගේ නමින් මියපරලොව යන්න යෙදුනු පින්වත් ගාමිණී අබේසිරි වික්‍රමාරච්චි පියාණන්ට අනුමෝදන් වෙත්වා. මීට තුන්මසකට පෙර හදිසි රිය අනතුරකින් මියපරලොව ගිය පින්වත් අමිල සංජීව බාලසූරිය පුතණුවන්ට මේ සියලුම පින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන් වෙලා ඒ

මියපරලොව ගිය සියලු ඥාතීන්ගේ හිත මිත්‍රාදීන්ගේ පරලොව ජීවිත සැපයටම පත්වෙත්වා, ඥාතීන්ටත් මේ දුක් සහිත සසරින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙන්න ලැබෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදන් කරන්න. මිනුවන්ගොඩ මනෝජ් ඉලෙක්ට්‍රිකල්ස් ආයතනයේ පින්වත් මනෝජ් ගයාන් වික්‍රමාරච්චි මහත්මා විසිනුයි ධර්ම දානය සිදු කලේ. මේ රැස් වූ සියලුම පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදය, රත්නත්‍රයේ ආශිර්වාදය, සියලු දෙවිදේවතාවුන් වහන්සේලාගේ ආශිර්වාදය මනෝජ් ගයාන් වික්‍රමාරච්චි මහත්මයාට සැලසෙත්වා. එතුමා ඒ කරගෙන යන ව්‍යාපාර කටයුතු සියල්ලටත්, දෙවියන්ගේ ආශිර්වාදය, තෙරුවනේ ආරක්ෂාව රැකවරණය සැලසිලා ඒ කටයුතු දිනෙන් දින දියුණු කරගන්න, ඒ කටයුතු සුවසේම කරගන්න අවකාශ ලැබෙත්වා. සුජීවත්ව සිටින පින්වත් කේ.ජී. කරුණාවතී මෑණියන්ට, ප්‍රියංකා දිලානා රුවන්පතිරණ, මනුජ ආදිත්‍ය වික්‍රමාරච්චි පුතණුවන්ට, මතීෂ ආදිත්‍ය වික්‍රමාරච්චි පුතණුවන්ට, නන්දා මනම්පේරි මෑණියන්ට, ආර්.පී. ගුණවර්ධන පියාණන් ඇතුලු පවුලේ හැමදෙනාට මේ සියලු පින් අනුමෝදන්ව නිදුක් නිරෝග සුව සැලසේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. තව දුරටත් කිසිම කරදරයකින් බාධාවකින් තොරව සුවසේ පින් රැස් කරගන්නටත්, සුවසේම දහම් මග දියුණු කරගන්නටත් අවකාශ සැලසෙත්වා. ධර්ම දානය සිදු කලා වූ පින්වතුන්ලාට, ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාට, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සෑම සියලු දෙනාට ඒ වගේම සුපින්වත් ඔබ හැමදෙනාට මේ ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=BTyfPhkN2-g

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වයන් දරනු ලබන්නේ මීට තුන් මසකට පෙර මියපරලොව යන්න යෙදුනු පින්වත් අමිල බාලසූරිය ස්වාමිපුරුෂයාට පින් අනුමෝදනා කරන අදහසින්. මීට විසි එක් වසරකට පෙර මියපරලොව යන්නට යෙදුනු ධර්මරත්න පියාණන්ට පින් අනුමෝදනා කරන අදහසින්, ඒ වගේම ආදරණීය මෑණියන් වන මියගිය නන්දාවතී මෑණියන්ට පින් පෙත් අනුමෝදනා කරන අදහසින් පින්වත් සුමුදු නිර්මාලී දියණිය විසිනුයි ධර්ම දානමය පින සිද්ධ කරන්නෙ. මූලිකව ධර්ම දානමය පින සිද්ධ කරමින් බලාපොරොත්තු වෙනවා ඒ අමා නිවන් දුටු රහත් තෙරණිවරු මේ දේශනා මාලාවේදී යශෝධරා අර්හත් උත්තමාවිය ගැන දේශනාවක් සිද්ධ කරනවා නම් හොඳයි කියන අදහස ඒ පින්වතුන්ලාට තිබුනු අදහසක්. දේශනා මාලාවේදී යශෝධරා අර්හත් උත්තමාවියගේ චරිතාපදාන වර්ණනාවක් අප විසිනුත් සිදුකිරීමට බලාපොරොත්තුවෙන් හිටපු නිසා, අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව ඒ යශෝධරා අර්හත් උත්තමාවිය ගැන. තිලෝගුරු භාග්‍යවත් අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ උතුම් සිරිසම්බුදු මුවමඬලින් යම් ස්ත්‍රියාවක් ගැන මේ ලෝකයේ උතුම්ම ස්ත්‍රී රත්නය යැයි දේශනා කොට වදාළ සේක් ද ඒ තමයි යශෝධරා. ඒ යශෝධරා අර්හත් උත්තමාවියගේ චරිතාපදාන වර්ණනාව කියලා කියන්නෙ මේ වගේ කෙටි වෙලාවකින් කරන්න පුලුවන් එකක් නෙවෙයි. ඒ නිසා අද දවසේ මේ අහන බණ පද ටිකෙන් හොඳට ඒ අර්හත් උත්තමාවිය ගැන හිත පහන් කරගන්න. ඒ චරිතාපදාන වර්ණනාව උදෙසා මා අද කල්පනා කලේ මේ දහම් පණිවිඩය ඔබට කියලා දෙන්න. රාහුල මාතා යශෝධරා උත්තමාවිය නමින් මහමෙව්නාව අනගාරිකා භාවනා අසපුවේ උතුම් මෙහෙණින් වහන්සේලා විසින් සම්පාදනය කරපු උතුම් ග්‍රන්ථ රත්නය, මේ ග්‍රන්ථ රත්නය ඇසුරු කරගන්න, මොකද මේ ග්‍රන්ථ රත්නය තුළ හරිම ලස්සනට ඒ අර්හත් උත්තමාවියගේ චරිතාපදාන වර්ණනාව ඉදිරිපත් කරලා තියෙනවා. ඉතින් පින්වතුන්ලාටත් හැකියාවක් තිබෙනවා නම් මේ පොත හොයාගන්න, මේ පොත ලබාගෙන ඒ අසිරිමත් භික්ෂුණිය යශෝධරා මහරහත් උත්තමාවිය ගැන හිත පහන් කරගන්න. ඒ උත්තමාවිය හරිම අල්පේච්ඡයි, මේ සම්බුද්ධ ශාසනය තුළ සැඟවිලා වැඩ හිටපු කෙනෙක්. ප්‍රකට වෙන්න කැමැති වෙච්චි කෙනෙක් නෙවෙයි. ඒ නිසාමදෝ ඒ අර්හත් උත්තමාවියගේ ගාථා ථෙරී ගාථා විදියට උතුම් පොත් වහන්සේ තුළ

අන්තර්ගත වෙන්නෙත් නෑ. ඉතින් අපි අද ඒ උත්තමාවියගේ චරිතාපදාන වර්ණනාව මූලිකව කරන්නෙ අපදානය ඇසුරු කරගෙන, ඊළඟට මේ පොත් වහන්සේ ඇසුරු කරගෙන. ඒ අර්හත් උත්තමාවියට නමස්කාර වේවා කියන අදහසින් පින්වතුන්ලා ඒ අර්හත් උත්තමාවිය වන්දනා කරන ගාථාවෙන් ඒ උත්තමාවියට වන්දනා කරන්න. යාහි රූපා දස්සනීයා භික්ඛුණී සංඝසෝභනී සා ආස වා පරික්ඛීණා වීතරාගා මහිද්ධිකා තං මහා පුඤ්ඤවතිං පරිනිබ්බුතිං වන්දාමි රාහුලමාතා යශෝධරාති - ඉතා මනහර රූ ඇති දැකුම්කළු වූ පෙනුමැති යම් තෙරණියක් භික්ෂුණී සඟරුවන හොබනී ද කෙලෙසුන් නසා වූ වීතරාගී මහා ඍද්ධිය ඇත්තී මහා පින් ඇති පිරිනිවන් වැඩියේ රාහුලමාතා යශෝධරා සාදරයෙන් වදිමි මම්. ඒ අර්හත් උත්තමාවිය යශෝධරා නමින් හැඳින්වූවා, රාහුලමාතා නමින් හැඳින්වූවා, බිම්බාදේවී නමින් හැඳින්වූවා, භද්දකච්චායනා නමින් හැඳින්වූවා. ඒ උත්තමාවියගේ චරිතාපදාන වර්ණනාව ගත්තහම එය අරඹන්න තියෙන්නෙ මීට අසංඛෙය්‍ය කල්ප හතරකුත් කල්ප ලක්ෂයකට ඈත සිට. මීට අසංඛෙය්‍ය කල්ප හතරකුත් කල්ප ලක්ෂයකට පෙර මේ ලෝකයේ ආශ්චර්‍යජනක සිදුවීමක් සිද්ධ වුනා, දීපංකර අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ. දීපංකර බුදුරජාණන් වහන්සේ මහත් වූ භික්ෂු සංඝයා පිරිවරාගෙන වැඩම කරනකොට ඒ බුදුරජාණන් වහන්සේ උදෙසා බුදුරජාණන් වහන්සේට මඩගොහොරුවකින් එතෙර වීම පිණිස එක්තරා පින්වන්ත තාපසයෙක් බුදුරජුන්ට ඒදණ්ඩක් වේවා කියන අදහසකින් ඒ මඩගොහොරුවේ වැතිරුනා. අපි අසා තිබෙනවා ඒ සිදුවීම. ඒ තාපසයා ඒ ඍෂිවරයා සුමේධ තවුසා. සම්බුද්ධත්වය පිණිස මහා පින් ඇති බුද්ධ අංකුරය. ඒ මහා පින්වන්තයා මඩවගුරේ වැතිරිලා දීපංකර බුදුරජාණන් වහන්සේට වන්දනා කරගෙන කියනවා ස්වාමීනී මට බොහෝ කල් යහපත පිණිස පවතීවී, ඔබවහන්සේ ඔබවහන්සේගේ සිරිපා යුගවල මඩ නොතවරාගෙන මාගේ පිට මතින් වඩින සේක්වා. බුදුරජාණන් වහන්සේට මේ කය ඒදණ්ඩක් වේවා, මහත් වූ භික්ෂු සංඝයාට මේ කය ඒදණ්ඩක් වේවා කියලා වැතිරුණා. ඒ වැතිරිච්ච වෙලාවේ මහා ජනකාය ඒ අසිරියට එතෙන්ට එකතු වුනා. ඒ වෙලාවේ දීපංකර බුදුරජාණන් වහන්සේ ගම්භීර බ්‍රහ්මස්වර විහිදුවලා කියනවා, පස්සතෙ මං ජටිලං - මේ ජටිල තාපසයා දෙස බලන්න. මෙහි මේ මඩේ වැතිරී සම්බුදුරජාණන් වහන්සේට සිය කය ඒදණ්ඩක් කොට පූජා කොට සිටින්නේ එසේ මෙසේ පුරුෂයෙකු නොවේ. මින් අසංඛෙය්‍ය කල්ප හතරකුත් කල්ප ලක්ෂයක් ගිය තැන ගෞතම නමින් සම්මා සම්බුද්ධ රාජ්‍යයට පත්වෙන්නේ මේ

පුරුෂයාය. බුදුරජාණන් වහන්සේ එදා ඔය ප්‍රකාශය කරනකොට ඒ රැස් වෙච්චි සෙනඟ අතරේ තාපසියක් හිටියා. ඒ තාපසිය සමීපයේ තිබුනා මහනෙල් මල් මිටි අටක්. මේ වදන කියනවාත් එක්කම ඒ සුමිත්‍රා නම් වූ තාපසි, ඇගේ නම සුමිත්‍රා. ඒ සුමිත්‍රා තාපසීට බලවත් චිත්ත ප්‍රසාදයක් හටගත්තා. ඒ තාපසී ඉදිරියට පැමිණිලා සුමේධ තාපසතුමාට තමන් ගාව තිබුනු මහනෙල් මල් මිටි අටෙන් මිටි පහක් දුන්නා. මිටි පහක් දීලා කිව්වා තාපසතුමනි ඔබ ලොව්තුරා බුද්ධ රාජ්‍යය ප්‍රාර්ථනා කරන්න. බුදුරජාණන් වහන්සේ උදෙසා ඇය දීපු මහනෙල් මල් මිටි පහ පූජා කරලා සුමේධ තාපසයා සම්බුද්ධත්වය ප්‍රාර්ථනා කලා. ඇ මහනෙල් මල් මිටි තුනක් තියාගත්තා. ඒ තුන ඇය පූජා කලා, ඇය එසේ පූජා කොට ප්‍රාර්ථනා කලා මේ මහා පුරුෂයා යම් කලෙක ගෞතම නමින් සම්මා සම්බුද්ධත්ව රාජ්‍යයට පත්වෙනවාද ඒ තාක් කල්ම බෝසත් බිරිඳ ලෙස මේ සසරේ මටම යන්න ලැබේවා. අන්න එහෙම ප්‍රාර්ථනා කරපු කෙනා යශෝධරා. ඉතින් බොහෝ ජාති වල දීර්ඝ සසරේ බුදුරජාණන් වහන්සේ බෝසතාණන් වහන්සේ විදියට එනකොට බෝසතාණන් වහන්සේ සමීපයේම ඉඳිමින් බෝසතාණන් වහන්සේට පාරමිතා පූර්ණය කරගන්න යම් ස්ත්‍රී රත්නයක් උපකාරී වුනාද, ඒ තමයි යශෝධරා. ඒ පැමිණි සසර ගමන ගැන කියන්න ගත්තොත් ඒක දීර්ඝ කතාවක්. ජාතක කතා බොහෝමයක පාහේ ඒ උත්තමාවියගේ අසිරිමත් කැප කිරීම ස්ත්‍රී රත්නයක් විදියට, මහාබෝධිසත්වයෝ දුෂ්කර පාරමිතා පුරනකොට ඒ පාරමිතා පිරිල්ලට ඉඟියකින් වත් බාධා නොකර ඇ බෝසතාණන් වහන්සේට උපකාරයක්ම වුනා. ඇත්තෙන්ම අපේ මහාබෝධිසත්වයන් වහන්සේ පාරමිතා ධර්මයන් පූරණය කරනකොට යශෝධරාව පහසුවක්ම වුනා. ඇය ස්ත්‍රියක් විදියට කිසි කලෙක අපහසුවක් වුන් නෑ, ඒ විදියට පැමිණි යශෝධරාව අසංඛෙය්‍ය කල්ප හතරකුත්, කල්ප ලක්ෂයක කාලයක් පුරාවට පැමිණිලා මේ ජීවිතයේ සුප්‍රබුද්ධ රජුට දාව, අමිතා බිසවගේ කුසේ පිළිසිඳ ගත්තා. ඒ මහා පුණ්‍යවතී පිළිසිඳගත්ත දවස ඇසළ පුර පසළොස්වක පුන් පොහෝ දිනය. යම් මොහොතක මහාබෝධිසත්වයෝ තුසිත දෙව් භවනින් නික්මිලා මහාමායා බිසවගේ කුස පිළිසිඳ ගත්තාද, එදා ලෝකයේ මහා අසිරිය සිද්ධ වුනාද, අන්න ඒ මොහොතේම යශෝධරාව අමිතා බිසවගේ කුස පිළිසිඳගත්තා. යම් දිනයක ඒ මහාබෝධිසත්වයන් වහන්සේ ලුම්බිණි සාල වනෝද්‍යානයේදී මේ මිහිකත සොළවා සොළවා දේවානුභාවය පැරදූ ආලෝකයකින් මේ ලෝකය එළිය කරමින් මනුලොවට වැඩම කලාද, ඒ වෙසක් පුර පසළොස්වක පුන් පොහෝ

දිනයේ මහා බෝධිසත්වයෝ උපදින මොහොතේම පෙර පසු නොවී යශෝධරාවත් අමිතා බිසවගේ කුසින් බිහිවුනා. පින්වතුනේ මේ ලෝකයේ අපි ජන්ම ලාභය ලබනකොට අපි උපදිනකොට අනිත් සත්වයෝ උපදිනකොට ඒ මොහොතේම තව බොහෝ දෙනෙක් උපදිනවා. මේ ලෝකෙ අපි උපන්න වෙලාවේම පෙර පසු නොවී බොහෝ දෙනෙක් උපදින්න ඇති. බොහෝ සත්තු උපදින්න ඇති. ඊළඟට බොහෝ පැළ ආදිය රෝපණය වෙන්න ඇති. බොහෝ දේ හටගන්න ඇති. හැබැයි අපේ මහාබෝසතාණන් වහන්සේගේ ජීවිතේ අසිරියක්. බෝසතාණන් වහන්සේ මේ ලෝකෙට පහළ වෙන මොහොතේ පෙරපසු නොවී සිද්ධ වෙන්නේ කාරණා හතක් විතරයි. කිසිම පෙර පසුවීමක් වෙන්නැතිව ඒ මොහොතේම ඒ කරුණු හත වෙනවා, ඒ නිසා ඒවට කියනවා සහජාත වස්තු. මහාබෝධිසත්වයෝ උපදිනකොටමයි යශෝධරාව උපන්නෙ. මහාබෝධිසත්වයෝ උපදිනකොටමයි ආනන්ද තෙරුන් වහන්සේගේ ඒ උපත සිද්ධ වුනේ, ආනන්ද කුමාරයා. මහාබෝධිසත්වයෝ උපදිනකොටමයි කාලුදායී ඇමැතියා උපන්නෙ. මහාබෝධිසත්වයෝ උපදිනකොටමයි ඡන්න අමාත්‍ය පුත්‍රයා උපන්නෙ. මහාබෝධිසත්වයෝ උපදින මොහොතේම පෙර පසු නොවී මේ මහා පෘථිවියේ මධ්‍ය මණ්ඩලයෙන් බෝ අංකුරය පැන නැංගා. මහාබෝධිසත්වයෝ උපදින මොහොතේම පෙර පසු නොවී සතර මහා නිධාන පොළොවෙන් හටගත්තා.  මේ තමයි සහජාත වස්තු. බෝධිසත්වයෙක් ලෝකයේ උපදිනකොට ලෝකාන්තරික නරකය පවා එළිය වෙනවා. ගිනිදැල් වලින් වෙළී ගත්ත අවීචි මහානරකාදියේ ගිනිදැල් නිවී යනවා. මුළු ලෝකයටම සෞම්‍ය සුවයක් දැනෙනවා. මේ ලෝකයේ යම්තාක් වෘක්ෂයෝ තියෙනවාද, මේ තුන්ලොවේම තියෙන සියලු වෘක්ෂ වල මල් පිපෙන්න පටන් ගන්නවා. මුහුදේ රළ නැගුම මොහොතකට නවතිනවා. මේ විදියේ මහා අසිරියක්. දෙවියන්ගේ මහානුභාවය පැරදූ මහා සොඳුරු ආලෝකයක් ලෝකය පුරා පැතිරී යනවා. එතකොට ඒ මොහොතේ යම් කාරණා හතක් සිද්ධ වුනාද, ඒ කරුණු හත සිද්ධ වෙනකොට ඒ කරුණු හතටත් ඒ මහා අසිරිය අදාළයි. යශෝධරාව මේ ලෝකයේ ජන්ම ලාභය ලබන වෙලාවේම පොළොව කම්පා වුනා. මහා අසිරිය සිද්ධ වුනා. ඒ නිසාම සුප්‍රබුද්ධ රජ්ජුරුවො, අමිතා දේවිය ඇයට නම දැම්මා යශෝරාව පැතිර යන්නී, යශෝධරා. ඇය ක්‍රමයෙන් වයසින් වැඩෙනකොට ඇගේ රූපය මූර්තියකට වඩා ලස්සනයි. රනින් කරවූ මූර්තියකට වඩා ඒ රුව ලස්සනයි, ඒ නිසා ඇයට කිව්වා බිම්බා දේවි. බිම්බ කියලා කිව්වෙ මූර්තිය. මූර්තියකටත් වඩා ලස්සන දේවිය, බිම්බා දේවිය. ඇගේ ශරීරය කාඤ්චන

පැහැය රත්රතන් පාටයි. රත්තරන් වලට වඩා ඇ ලස්සනයි, රත්තරන් වලටත් වඩා සුන්දර නිසා රත්තරන් වලටත් වඩා ලස්සන නිසා භද්ද කච්චායනා, එහෙම තමයි ඇයට නම් ලැබුනේ. දහසය හැවිරිදි වියේදී අපේ මහාබෝධිසත්වයන් එක්ක යුග ජීවිතයට එළඹෙනවා. දහසය හැවිරිදි වියේදී යුග ජීවිතයට එළඹෙච්චි ඇය විසිනව හැවිරිදි වියේදී පින්වන්ත මොලකැටි දරුසිඟිත්තෙක් මෙලොවට දායාද කලා, රාහුල. ඒ රාහුල පුත් කුමාරයාගේ උපතත් එක්ක ඇයට තවත් නමක් එකතු වුනා, රාහුල මාතා. රාහුල මාතා යශෝධරා උත්තමාවිය. ඒ උත්තමාවිය එච්චර ලස්සන වුනේ කොහොමද. ඒ උත්තමාවියගේ තිබුනු පතිවෘතා ධර්මය ආශ්චර්යයක්. ස්වාමියා වෙනුවෙන් බැඳුනු හිත් ඇති බව ආශ්චර්යයක්. ස්වාමියාව ඉක්මවා නොයනා බව ආශ්චර්යයක්. තමන්ගේ ස්වාමිපුරුෂයාව ඉක්මවා දෙවියෙක් පිළිබඳව වත් සිතක් උපද්දන්නේ නැති කෙනෙක්. දීර්ඝ සංසාර ගමනේ එනකොට එක ජාතියක ඇ උපන්නා උදයභද්‍රා. ඒ කාලෙ මහාබෝධිසත්වයෝ මේ මනුස්ස ලෝකෙ ඉපදිලා ඉන්නවා, උදය රජු. කලවයස පැමිණියාට පස්සෙ උදයභද්‍රාව, උදය රජ්ජුරුවන්ගේ අග්‍රමහේෂිකා බවට පත්වුනා. ඒ කාලෙ ආයුෂ දීර්ඝයි. අවුරුදු දස දහසක් මේ දෙදෙනා ජීවිතය ගත කලා. අවුරුදු දස දහසක් ගියපු තැන උදය රජ්ජුරුවො අසාධ්‍ය වුනා. උදය රජු කාලක්‍රියා කරන්න ළඟයි. උදයභද්‍රාව, ආදර බිසව සමීපයට පැමිණිලා කියනවා, මා ප්‍රිය උදයරජතුමනි, ඔබය මාගේ ස්වාමී. මං වෙන පුරුෂයෙක් හිතකින් වත් පතන්නෙ නෑ. ඔබ උතුම් ජීවිතයක ගත කරපු කෙනෙක්. ඔබ මියපරලොව ගියොත් ඒකාන්ත කොට දෙව්ලොවකම යන්නේය. ඔබ ඒ දෙව්ලොව ගියත් මාව අමතක කරන්න එපා කියනවා. ඉතින් උදයභද්‍රාවිය ඒ වචනය කියලා වැඩි කාලයක් උදයරජ්ජුරුවො හිටියෙ නෑ, කාල ක්‍රියා කලා. උදයරජු යම් මොහොතක කාලක්‍රියා කරනවාද ඒ මොහොතේම පින්වතුනි, ඒ වෙනකල් දෙදෙව් ලොවට අධිපතිව හිටපු සක්දෙවිඳු චුත වුනා. අභිනව සක්‍ර දේවේන්ද්‍රයා විදියට අපගේ මහා බෝධිසත්වයෝ, උදය රජ්ජුරුවො එතැන පහළ වුනා. අලුතෙන් සක්දෙව් රජෙක් පහළ වූ විට දෙව්ලොව සැණකෙළි තිබේ. සැණකෙළි දින හතක් පුරා පැවැත්වුනා. ඒ දින හතේ සැණකෙළි වලට සහසම්බන්ධ වීම නිසා ඒ අභිනව සක්දෙවිඳුන්ට මනුස්ස ලෝකය ගැන සිහි කිරීම ප්‍රමාද වුනා. දෙව්ලොවින් දින හතක් ගතවී ගියා, තව්තිසාවෙන්, මනුස්ස ලෝකෙන් අවුරුදු හත්සීයක් ගත වී ගියා. අවුරුදු හත්සීයකට පස්සෙ මහාබෝධිසත්ව සක්දෙව්රජාණෝ මනුස්ස ලෝකෙ උදයභද්‍රා දෙස බලනවා. ඒ බලනකොටත් ඇය පාරිශුද්ධ බඹසරක්

රැකගෙන ඉන්නවා. පතිවෘතා ධර්මය මැනැවින් රැකගෙන ඉන්නවා. තමන්ගේ ස්වාමියා මියපරලොව ගිහිල්ලා අවුරුදු හත්සීයක් ගතවෙලත් වෙන පුරුෂයෙක් සම්බන්ධයෙන් හිතුවිල්ලක් වත් හිතලා නෑ. අසිරියක්. වෙච්චි පොරොන්දුව සිහිපත් වුනා, දෙව්ලොවක ගියොත් ඔබ මාව අමතක කරන්න එපා කියපු එක. එක රාත්‍රියක උදයභද්‍රා බිසව මාළිගාවේ උඩුමහලේ ඉද්දි මහාරැකවල් සියල්ලම තියෙද්දී මෙන්න අහස් ගැබින් ආලෝක විහිදුවමින් එක්තරා තරුණ පුරුෂයෙක් එනවා. ඒ පුරුෂයා පැමිණියේ රනින් කරවූ යහනාවක් උඩ වාඩි වෙලා. ඒ පුරුෂයාගේ අතේ තිබුනා රන් පිරවූ, සම්පූර්ණයෙන්ම රන් පිරවූ රන් භාජනයක්. රන් පාත්‍රයක්, එය අරගෙන ඇවිල්ලා උදයභද්‍රාවට කියනවා උදයභද්‍රා ස්ත්‍රී අංග ලක්ෂණයන්ගෙන් කිසි අඩුවක් ඔබට නෑ. ඔබ ඉතාම සුන්දර තැනැත්තියක්. මා මේ පැමිණ ආයාචනා කරන්නෙ මේ ඔබට පෙනෙන රත්තරන් යහනේ මාත් සමඟ එක මොහොතක් කම්සුවයේ වෙළී ගත කරන්න, ඔබ මෙහි පැමිණෙන්න. මං ඔබට තෑගිත් අරගෙන ආවා. මේ රන් පිරවූ රන් පාත්‍රය ඔබටයි. එතකොට උදයභද්‍රා අහනවා මෙච්චර මහා රැකවල් මැද ඔබ කොහොමද මෙතෙන්ට ආවෙ. උදයභද්‍රා ඔබට පෙනෙන්නේ නැද්ද, මම මනුස්සයෙක් නොවෙයි, මා දෙවියෙක්. දෙව්ලොව දෙවඟණන් අමතක කොට ඔබ සොයාගෙන ආවෙ ඔබේ සුන්දරත්වය නිසාමයි. එක මොහොතකට මාත් එක්ක මේ යහනේ සැතපෙන්න එන්න. මම මේ තෑග්ග ඔබට දෙනවා. එතකොට ඈ කියනවා දේවපුත්‍රය, ඔබට වැරදීමක්. යම් හෝ දෙවියෙක්, යම් හෝ නාගයෙක්, යම් හෝ යක්ෂයෙක් ඒ කවරෙක් ඇවිල්ලා මට ආරාධනා කලත් උදයභද්‍ර රජු විනා මාගේ උදයරජු විනා මට වෙන කිසිම පුරුෂයෙක් එපා කිව්වා. මං පතිවෘතා ධර්මය රැකගෙන ඉන්න කෙනෙක්. හරී පුදුම සහගතයි පින්වතුනි, මේවා වර්තමාන ලෝකයට කතන්දර වගේ. ඒ තරම්ම අසිරිමත්. එදා බැරිවුනා ඒ දෙවියන්ට ඈව කැමැති කරගන්න. දෙවෙනි දවසක ඒ දේවපුත්‍රයා යළිත් පැමිණෙනවා. ඒ පැමිණෙද්දී ඒ දේවපුත්‍රයා තෑග්ග විදියට අරගෙන ආවා රිදී පිරවූ රන් භාජනයක්. එදා අරගෙන ඇවිල්ලා එදා ආරාධනා කලා, උදයභද්‍රාව නිහඬව හිටියා. නිහඬව ඉන්නකොට ඔහු නිහඬවම යන්න ගියා. තවත් දවසක ඒ දේවපුත්‍රයා යහන මවාගෙන පැමිණෙනවා. එදා ඔහු අරගෙන එනවා රිදී පිරවූ රිදී භාජනයක්. එදත් ආරාධනා කලා, උදයභද්‍රා කියනවා දේවපුත්‍රය, ඔබ යළි යළිත් මෙහෙම පැමිණිලා සිය දහස් වරක් ආරාධනා කලත් මං මගේ පතිවෘතා ධර්මය බිදන්නෑ. උදයභද්‍ර මාගේ ප්‍රිය රජු විනා මට වෙන කිසිවෙකුත් එපා. හැබැයි ඔබ ගැන යමක් කියනවා නම්

ඔබ මෝඩ තැනැත්තෙක්, අඥාණයෙක්, ඔබගේ දේවත්වයටත් ඔබ කටයුතු කරනා විදිය නිගාවක්. සාමාන්‍යයෙන් ස්ත්‍රියක්ව ක්ලේශ වසඟයට ගන්න කැමැති පුරුෂයා පළවෙනි දවසේ ස්ත්‍රිය ප්‍රතික්ෂේප කලොත් දෙවෙනි දවසේදී ඇයව කැමැති කරවාගන්න පළමු දවසට වඩා වටිනා භාජනයක්, වටිනා භාණ්ඩයක්, වටිනා තෑග්ගක් අරන් එන්න ඕන. එතකොටයි ස්ත්‍රිය කැමැති වේවි කියලා හිතන්න හරි පුලුවන්. හැබැයි ඔබ අඥාණයි, ඔබේ තෑග්ගේ වටිනාකම එන්න එන්න බහිනවා. මුල් දවසේ අරගෙන ආවාට වඩා බොහෝම අඩු වටිනාකමක් තියෙන තෑග්ගක් අරගෙනයි ඔබ අද මා කරා ඇවිත් තියෙන්නෙ. එතකොට ඒ දේවපුත්‍රයා කියනවා, ප්‍රිය උදයභද්‍රාවෙනි, මා අඥාණයෙක් නොවේ. මම මේ වෙළඳාම ගැන ගණුදෙනුව ගැන නොදන්නා කෙනෙක් ද නොවේ. වටිනාකමට පෑහෙන්නයි අපි තෑගි අරගෙන එන්නෙ. මේ මනුස්ස ලෝකෙ ආයුෂය කියන්නෙ වේගයෙන් අඩු වීයන එකක්. ආයුෂ අඩුවෙන කල්හි වර්ණය සැපය බලය සියල්ලද අඩු වෙවී යන්නේය. මනුස්සයාගේ වටිනාකම ද අඩු වෙවී යන්නේය. වටිනාකම අඩු වෙවී අඩු වෙවී ගොස් අවසානයේදී ජරා මරණයේදී මේ මනුස්සයා මේ නොවටිනා දෙයක් සේ මේ ශරීරය බැහැර කොට නික්ම යන්නේය. දරකඩක් සේ මේ සිරුර පොළොව වැතිරගන්නේය. උදයභද්‍රා ඔබේ මේ මනුස්ස ශරීරයත් ඒ විදියමයි, ඒ නිසා පළමු දවසේ වටිනාකම තරම් මං පැමිණි දෙවැනි දවසේ ඔය සිරුරට වටිනාකමක් නැති නිසා මං එදාට පෑහෙන තෑග්ගක් ගෙනාවෙ. එතකොට උදයභද්‍රා බිසව කියනවා අම්මා කෙනෙක් තමන්ගේ ආදර දරුවාට අනුකම්පාවෙන් යම් අවවාදයක් කළ යුතුයි ද, ඒ වගේනෙ ඔබේ අවවාද. ඔබ මගේ හිත ගුණයේ පිහිටුවන්න අවවාද කරනවානෙ. දේවපුත්‍රය හැබෑවටම ඔබ කවුද? එතකොට ඒ සක්දෙවිඳු දේවවේශය ඉවත් කරගෙන උදය රජ්ජුරුවන්ගේ වේශයෙන් පෙනී හිටියා. පෙනී හිටලා කියනවා උදයභද්‍රා මා අන් කවරෙක්වත් නොවෙයි, මා ඔබගේ ප්‍රිය ස්වාමිපුරුෂයා, උදයරජු. මේ ජීවත් වෙලා ඉන්න කාලයේ යහපත් ජීවිතයක් ගත කරපු නිසා මම දෙදෙව්ලෝකාධිපති සක්දෙවිඳුව උපන්නා. ඒ නිසා උදයභද්‍රා අප්‍රමාදී වෙන්න, අප්‍රමාදී වෙන්න කියලා අවවාද කරලා නොපෙනී ගියා. සක්දෙවිඳුටවත් සිඳින්න බැරි විදියේ පතිව්‍රතාවක් ඒ යශෝධරාවට තිබුනේ. ඒ සංසාර ගමනේ එහෙම පතිව්‍රතාවක් ආරක්ෂා කරපු නිසා පින්වතුනේ අසිරිමත් රූපයක් ඇයට ලැබිලා තිබුනා. අපේ මහාබෝධිසත්වයෝ මහාභිනිෂ්ක්‍රමණය නොකලා නම්, ගිහි වාසයේ ගත කලා නම් සක්දෙව් රජෙක්නේ. සක්දෙව් රජෙකුගේ බිරිඳ බවට පත්වෙන කෙනා අතිශයින්ම සුන්දරයි. ඇයට කියනවා

ස්ත්‍රී රත්නය. ඇත්තෙන්ම ස්ත්‍රී රත්නය ගැන කියවෙන්නේ ස්ත්‍රී රත්නය මනුස්ස ස්වභාවය, මනුස්ස රූපශ්‍රීය ඉක්මවා ගිහින් ඉන්නවා, හැබැයි දිව්‍ය රූපශ්‍රීයට පැමිණිලා නෑ කියලා. නමුත් යශෝධරා කියලා කියන්නෙ දෙව්දුවකගේ රූ සිරි පරදන තරම් ලස්සන රූපයක් තිබ්බ කෙනෙක්. ඒ යශෝධරාව විසිනව හැවිරිදි වියේදී පින්වන්ත සිඟිති පුතෙක්, පශ්චිම භවිකයෙක් රාහුල පුත් කුමාරයාව වැදුවා, ඇසළ පුර පසළොස්වක පුන් පොහෝ දිනයේ. එදාම අපේ මහාබෝධිසත්වයන්ගේ මහාභිනිෂ්ක්‍රමණය සිද්ධ වුනා. ඒ මහාභිනිෂ්ක්‍රමණය සිද්ධ වුනාම තමන්ගේ සිඟිති මොලකැටි පුතා උපන්න දවසේම, ස්වාමිපුරුෂයා ළඟ ඉන්න ඕන මොහොතක ඒ ස්වාමිපුරුෂයා තමාව දාලා ගියා කියලා ඇය එක මොහොතක්වත් බෝධිසත්වයන්ට සාප කලේ නෑ. හරිම පුදුම සහගතයි ඒ ජීවිත. ඇය දින හතක් බලාගෙන ඉන්නවා, බෝධිසත්වයන්ව රාජමාළිගය පුරා හෙව්වා. මොකද ඇයට විශ්වාස නෑ තමාව දාලා ගියා කියන එක, ඒ තිබුනු ආදරය නිසා. දින හතකට පස්සෙ මහාභිනිෂ්ක්‍රමණය කරපු පණිවිඩය අරගෙන ඡන්න ඇමැතියා එනවා, ඡන්න ඇමැතියා පැමිණිලා පණිවිඩය කිව්වා. ඒ මහාබෝධිසත්ව සිද්ධාර්ථ කුමාරයාණෝ දිගුව තිබූ කෙස් කළඹ ඉවත් කලා කියන පණිවිඩය කිව්වා. ලස්සන වස්ත්‍ර ආභරණ සියල්ල ඉවත් කලා කියන පණිවිඩය කිව්වා. පාවහන් යුග ඉවත් කලා කියන පණිවිඩය කිව්වා. ඒ පණිවිඩය අසපු සැනින් යශෝධරා දැනගත්තා, යශෝධරා ඒ වෙනකොටත් අපේ මහාබෝධිසත්වයන්ගේ සිතුවිලි දාමය ගැන යම් හැඟීමක් තිබුනු කෙනෙක්. ඒ වෙලාවෙම යශෝධරා හිතුවා ඒ මහාබෝධිසත්වයො යම් නිවනක් පතාගෙන මේ ගෘහබන්ධනය අත්හැරියාද, ඒ ගෘහ බන්ධනය අත්හැරලා නිවන හොයන වැඩපිළිවෙලට මම බාධාවක්මයි, ඒ නිසාමයි අපව අත්හැර යන්න ගියේ. උන්වහන්සේට නිවන හොයන වැඩපිළිවෙලේදී මොහොකටවත් මාව මතක් වෙන්න නම් එපා. ඒ ගමනට බාධාවක් වෙන්න නම් එපා කියලා ඇය හිතුවා. ඇතැම්හු මේ යශෝධරා කියන මහා පින්සාර උතුම් ස්ත්‍රී රත්නයේ සිතුවිලි දාමය, ඒ හිතන පිළිවෙල දන්නෙ නැතිව පහුකාලීනව නොයෙක් දෙනා කවි ආදිය පටලවාගෙන තියෙනවා. මහාබෝධිසත්වයෝ මහාභිනිෂ්ක්‍රමණය කලාට පස්සෙ යශෝධරා මෙහෙම කියන්න ඇති, මෙහෙම කියන්න ඇති කියලා, ඇයි අපිව දාලා ගියේ කියලා. එහෙම අඳෝනා තිබුන් නෑ. ඇය තමන්ගේ දිගු කේශකලාපය කපලා ඉවත් කලා. ඈ තමන් සැරසෙන ලස්සන වස්ත්‍රාභරණ ඔක්කොම ඉවත් කලා, ඇයත් මිරිවැඩි ඉවත් කලා. ඇයත් හරියට පැවිදි වේශයක් අරගෙන තමයි මාළිගාවේ කාලය ගත කලේ. ඉතින් ඒ තමයි

යශෝධරා. යශෝධරාවගේ සිතුවිලි දාමය ගැන මහාබෝධිසත්වයෝ අභිනිෂ්ක්‍රමණය කලාට පස්සෙ යශෝධරා කොහොම හිතන්න ඇතිද කියලා ඒ ලියැවුනු කවි අතරෙ බොහොම සුන්දර කවි, ඈ ඇත්තටම මෙහෙම හිතන්න ඇති, හිමයේ ගොසින් මල් යහනක නිදනවද, කොමල අනගි සිරිපා දෙක රිදෙනවාද, හිමේ නැතිව දෙවියෝ මුර කරනවාද, මගේ ඇත් රජුනි හිමිසඳ අද කොතැනකද. සුවඳ බොජුන් වැළඳූ මගේ හිමිසඳුට, නිබඳ බොජුන් රස කර දුන් වළඳන්ට, සුවඳ එලාපල වැවියන් හිමියන්ට, සුවඳ මල් පිපීයන් මගෙ රන් කඳට. එතකොට මේ සිහිපත් කලේ නෑ ආයෙ මේ ඔක්කොම එපා වෙලා මා ගාවට එන්න කියලා. ඈ සාංසාරික ගමනේ එනකොටත් මහාබෝධි සත්වයන්ගේ ගුණ වැඩීමට උපකාරයක්ම වුනා. මේ ජීවිතෙත් හිතුවිල්ලකින් වත් ඇය බාධාවක් වුන් නෑ. කැලේ තිබෙන කොයි දේවත් රස වේවා, මලේ බඹරු ලෙස පිරිවර ඇතිවේවා අව්වේ තිබෙන රැස් මාලා අඩු වේවා, උන්වහන්සේ වනයේ වඩිනකොට උන්වහන්සේගේ හිසට රාජ කුමාරයා කාලෙ තිබුනු ඡත්‍රය නෑ, ඒ නිසා ඇය පතනවා අව්වේ තියෙන රැස් මාලා අඩුවෙලා පහසුව සැලසේවා. ගව්වෙන් ගව්ව දිවමාළිග සෑදේවා, එහෙම ප්‍රාර්ථනා කලා. ඒ උත්තමාවියගේ ඒ අද්භූත කැපකිරීම අවසානයේ අපි සිද්ධාර්ථ මහාබෝධිසත්වයො මහාභිනිෂ්ක්‍රමණ කරලා වර්ෂ හයක් ගියපු තැන වෙසක් පුර පසළොස්වක පුන් පොහෝ දිනයේ සියලු කෙලෙසුන් නසා මේ මහා භද්‍ර කල්පයේ සතරවෙනි සම්මා සම්බුදුරජාණන් වහන්සේ විදියට ලොව්තුරා සම්බුද්ධ රාජ්‍යයට පත්වුනානෙ. ඒ ලොව්තුරා සම්මා සම්බුද්ධ රාජ්‍යය පසක් කලාට පස්සෙ බුදුරජාණන් වහන්සේ හරියටම අවුරුද්දක් ගතවෙච්චි තැන කපිලවස්තු පුරයට වැඩම කරලා වෙසක් පුර පසළොස්වක පුන් පොහෝ දිනයේ යමක මහා ප්‍රාතිහාර්යයෙන් ශාක්‍යයෝ දමනය කලා. රජ මාළිගාවට වැඩම කරලා යශෝධරාවගේ ගුණ කඳ ප්‍රකට කර කර බුදුරජාණන් වහන්සේ උතුම් චන්දකින්නර ජාතක ධර්මය දේශනා කලා. බොහෝ දෙනාට යහපත සැලසුනා. රාහුල පුත් කුමාරයාත් හත් හැවිරිදි වියේදී බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක භික්ෂුවක් බවට පත්වුනා. නන්ද කුමාරයාත් පැවිදිවුනා. ඊට කලක් ගතවුනාට පස්සෙ සුද්ධෝදන මහරජ්ජුරුවො ගිහිවස්ත්‍ර පිටින්ම අර්හත්වයට පත්වෙලා පිරිනිවන් පෑවා. ඒ පිරිනිවනින් පස්සෙ මහාප්‍රජාපතී ගෞතමී උත්තමාවිය තවත් කුල කාන්තාවන් පන්සීයක් එක්ක ගිහිල්ලා ගෞතම ශාසනය තුළ ස්ත්‍රීන්ට පැවිදි බව ලබාගත්තා. භික්ෂුණී සංඝයා බිහිවුනා. ඒ භික්ෂුණී සංඝයා බිහිවුනාට පස්සේ ඊට ටික කාලෙකට පස්සෙ තමයි යශෝධරාවගේ පැවිද්ද

සිද්ධ වෙන්නෙ. යශෝධරාව පැවිදි වෙන්න තීරණය කලේ තවත් දහසක් ශාක්‍ය කෝලීය කුල කාන්තාවො තවත් දහසක් පිරිවරාගෙන ගිහිල්ලා ඒ දහසක් දෙනා එක්ක තමයි යශෝධරාව පැවිදි වුනේ. මොකද ඇයට එහෙම පිරිවර සම්පත්තියක්, ඇය යන යන තැන යශෝරාවය පැතිරීමක්, ඇය යන යන තැන මංගල්‍යයක සිරි ගැනීමක් තිබුනා. ඇයි පින්වතුනි ඒ හේතුව? අපගේ ශාස්තෲන් වහන්සේත් එක්ක බෝසත් අවධියේ එකට පින් පිරූ කෙනා. අපි බුදුරජාණන් වහන්සේ යම් තැනකට වැඩම කරනවාද, වැඩම කරන වැඩම කරන තැන මංගල සිරි ගන්නවා. බුදුරජාණන් වහන්සේ වැඩම කරනකොට භාග්‍යවතුන් වහන්සේ දෙසටම නෙතුයුග යොමුවෙනවා. බුදුරජාණන් වහන්සේට පිරිවර සම්පත්තිය හැදෙනවා. හරියට ගංඟාවෝ මුහුදම හොයාගෙන යනවා වගේ, ලාභ සත්කාර කීර්ති ප්‍රශංසා සියල්ල බුදුරජාණන් වහන්සේව හොයාගෙන පැමිණෙනවා, පුණ්‍ය තේජස. උන්වහන්සේ පින් පුරනකොට උන්වහන්සේත් එක්ක ළඟම ඉඳගෙන පින් පුරපු කෙනාට ඒ පින් වලට දායක වෙච්ච් කෙනාට, ඒ පින් වලට බාධා නොකර උදව් කරපු කෙනාට එබඳු යසසක්, කීර්තියක්, ලාභ සත්කාර ගලාඒමක් නොවේවිද? එහෙම තිබුනා. ඉතින් ඒ උත්තමාවිය දහසක් පිරිවරාගෙන පැමිණිලා බුදුරජාණන් වහන්සේ අභිමුඛයේ පැවිද්දට පත්වුනා. ප්‍රජාපතී ගෞතමී අර්හත් උත්තමාවියගේ සමීපයේ පැවිදි උපසම්පදාව ලබාගත්තා. ඉතින් බුදුරජාණන් වහන්සේ පැවිදි උපසම්පදාව ලැබූ මොහොතේම යශෝධරාවන් පිළිබඳව ගුණ ප්‍රකට කලා, සිරිසම්බුදු මුව මඩලින්. රාහුල මාතාවෙනි, බුදු කෙනෙකුන්ගේ පහළ වීම දුර්ලභය. මිනිසත් බව ලැබීමද දුර්ලභය. බුද්ධ දර්ශනය දුර්ලභය. ඒ බුදුන්ගේ ධර්ම ශ්‍රවණය ද අතිශයින් දුර්ලභය. පැවිදි බවද දුර්ලභය. එබැවින් අප්‍රමාදීව සීල සමාධි ප්‍රඥා වැඩිය යුත්තේය කියලා බුදුරජාණන් වහන්සේ අවවාද කලේ. ඒ උතුම් ස්ත්‍රී රත්නය ඒ අවවාදය ලබාගෙන ඒ අවවාදය තුළම පිහිටියා. ඉතාම කෙටි කලක්, දෙපෝයක් ඉක්ම යන්න කලින් යශෝධරා මහරහත් උත්තමාවියක් බවට පත්වුනා. යශෝධරා මහරහත් උත්තමාවිය තමයි පින්වතුනි මේ බුද්ධ ශාසනයේ අභිඥාලාභී භික්ෂුණීන් අතර අග්‍ර වෙච්චි කෙනා. ෂඩ් අභිඥාලාභී භික්ෂුණීන් අතර අග්‍රම යශෝධරා. හැබැයි හරිම පුදුම සහගතයි, ඒ යශෝධරාව එතරම් අභිඥා බලයක් තිබිලත්, අභිඥා තේජසක් තිබිලත්, මහා ආනුභාවයක් තිබිලත්, ඊළඟට වඩින වඩින තැන ඒ උත්තමාවියට මහා පිළිගැනීම් තිබිලත් ඒ උත්තමාවිය ඍද්ධි පෙළහර ආදිය පාලා නෑ. අප්‍රකටයි. ඒ උත්තමාවී බොහෝම නිහඬව භික්ෂුණී සංඝයා අතර සැඟවිලා වැඩ හිටියා. ඉතින් මේ අර්හත්

උත්තමාවියගේ ජීවිතේ අවසාන මොහොත ගත්තොත් බුදුරජාණන් වහන්සේ ශ්‍රී සම්බුද්ධත්වය සාක්ෂාත් කරලා වර්ෂ හතලිස් තුනක් ගතවෙද්දි, ඒ වෙනකොට යශෝධරා උත්තමාවියගේ වයස අවුරුදු හැත්තෑඅටක්. බුදුරජාණන් වහනසේගේ වයස හා සමාන වයසනෙ. අවුරුදු හැත්තෑ අටක් වෙලා තිබුනා. බුදුරජාණන් වහන්සේ ඒ කාලෙ වැඩ හිටියේ රජගහනුරව ගිජ්ජකූට පර්වතයේ. ගිජ්ජකූට පර්වතයේ බුදුරජාණන් වහන්සේ සිව්වනක් පිරිසට දහම් දෙසුවා. ඒ ධර්ම දේශනාව ශ්‍රවණය කිරීම පිණිස යශෝධරා අර්හත් උත්තමාවිය ප්‍රධාන තවත් බොහෝ භික්ෂුණීන් වහන්සේලා වැඩම කලා. ඒ දහම් කතාව අවසානයේ යශෝධරා මහරහත් තෙරණිය කුටියට වැඩම කරලා කල්පනා කලා මාගේ වයසත් දැන් අවුරුදු හැත්තෑ අටක් වෙලා. මාගේ ශාස්තෘවර මහාකාරුණික වූ ඒ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ පිරිනිවෙන්න පෙර මං පිරිනිවන් පාන්න ඕන, උන්වහන්සේගේ පිරිනිවීම දකින්න මං ඉන්නෑ කියලා. එතකොට ඒ උත්තමාවිය කල්පනා කලා එසේ නම් ඒ පිරිනිවීම අදම වේවා. අදම මාගේ පිරිනිවීම වේවා. මං බුදුරජාණන් වහන්සේගේ පා කමල් යුග අවසර අරගෙන පිරිනිවන් පානවා කියලා සිතුවිල්ල හිතනකොට මේ මහා පෘථිවිය කම්පා වුනා. හරී පුදුම සහගතයි පින්වතුනි මේ රහතන් වහන්සේලාගේ, රහත් තෙරණින් වහන්සේලාගේ චරිතාපදාන අහනකොට, ඔබට කී වාරයක් අහන්න ලැබෙන්න ඇත්ද මේ දේශනා මාලාවේදීම මහාපොළාව කම්පා වුනා, මහපොළොව කම්පා වුනා කියලා. පින්වතුනි ඒ යුගය මේ පොළොව කම්පිත වෙවී තිබ්බ කාලයක්. ඒ යුගය දෙවියන්ගේ ආලෝකය ඉක්මවා ගියපු මහාආලෝක නිතර නිතර ලෝකයේ පැතිර ගියපු යුගයක්. අකල් පුණ්‍ය වර්ෂා නිතර නිරත ඇදහැලිච්ච යුගයක්. දෙවියන්ගේ සාධුකාර නාද මේ තුන්ලොවේම ගිගුම්නාද දුන්නු යුගයක්. යශෝධරා අර්හත් උත්තමාවිය වෙනුවෙන් ඒ ඔක්කොම සිද්ධ වුනා. අවසානයේ යශෝධරා අර්හත් උත්තමාවිය අපගේ බුදුරජාණන් වහන්සේ සම්මුඛයට පැමිණිලා භාග්‍යවතුන් වහන්සේගේ සිරිපා පියුම් යුග වන්දනා කලා. සම්මා සම්බුදු පියාණෙනි, මා ඇතුලු තුන්ලොව සියලු සතුන් ඔබේම දරුවන් කොට ගෙන නිවනට මග පෙන්වූ සම්මා සම්බුදු පියාණෙනි. ඔබ වහන්සේ දෙසූ ආකාරයෙන්ම ක්‍රියා කොට සසර රැකවරණය ලදිමි. ඔබවහන්සේ නිසාම අමා නිවනට පැමිණියෙමි. අද රාත්‍රියේ ජාති, ජරා, ව්‍යාධි, මරණ කිසිත් නැති ඒ අමෘත නිවනේ සැනසී පිරිනිවන් පාන්න සිතුවෙමි, එහෙම බුදුරජාණන් වහන්සේට මේ ගැන කියනවා. ඊළඟට කියනවා ස්වාමීනී, මේ අතිදීර්ඝ සංසාර ගමනේ

අසංඛෙයය කල්ප ලක්ෂයකුත්, කල්ප හතරකුත් පුරා ඔබවහන්සේගේ පතිනිය විදියට මම එනකොට මේ ජීවිතේ යශෝධරාව විදියට ඔබවහන්සේගේ ගිහිකල භාර්යාව වී සිටියදීත් ඔබවහන්සේගේ ශ්‍රාවක දුව වූ යශෝධරා භික්ෂුණිය වී සිටියදීත් මගෙන් යම් සුලු හෝ වරදක් වුනා නම් ස්වාමීනී මං ඒ සියලු වැරදි වලට මං ඔබ වහන්සේගේ පා කමල් යුග අභියස සමාව අයදිනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ යශෝදරාවට කියනවා, යශෝධරාවෙනි නිවන් පුර යන්න සැරසුනු ඔබ හට මා වෙන කුමක් කියන්නද. ඔබ යමකුදු සිතුවා නම් මේ එයට සුදුසු කාලයයි. හැබැයි බුදුරජාණන් වහන්සේ මේ යශෝධරා අර්හත් උත්තමාවිය අභිඥා බලයෙන් කෙළ පැමිණිලා ඉද්දිත් ඇය අප්‍රකටයි, මේ තුන්ලොවේ හිටපු තුන්ලොවට පහළ වෙච්චි උතුම්ම ස්ත්‍රී රත්නය. මහා ගුණ සම්පත්ති. ඒ ස්ත්‍රී රත්නය පිරිනිවන් පාන මොහොතේවත් ලෝකයට ඇයගේ අසිරිය තේජස දැකගන්න නැති නම්, ඒ මහාකාරුණිකයන් වහන්සේ යශෝධරාවට කියනවා, එහෙනම් ශ්‍රාවක දියණී යශෝධරා, ඔබ පිරිනිවන් පාන්න සූදානම් වෙන මේ මොහොතේ, ඔබ මේ සියලුදෙනාගේ හිත් පහන් කරවන්න පෙළහර පාන්න. ඒ පිරිනිවන් පාන මොහොතේ තමයි පින්වතුනේ යශෝධරා අර්හත් උත්තමාවිය මහාපෙළහර පෑවෙ. මේ පෙළහර පාන ගමන් හැමතිස්සේම පැවසුවා යශෝධරා අහං වීර අගාරෙති පජාපතී. පෙළහරක් පෙළහරක් ගානෙම මෙහෙම කිව්වා. මහා වීරයන් වහන්ස මම යශෝධරා වෙමි, ඔබවහන්සේගේ ගෘහජීවිතයේ ඒ ආදර බිරිඳ වූ යශෝධරාම වෙමි. ශාක්‍යම්හි කුලේ ජාතා ඉත්ථිඅංගේ පතිට්ඨිතා - ශාක්‍ය කුලේ උපන් සියලු ස්ත්‍රී අංගයන්ගෙන් පරිපූර්ණ වූ සොඳුරු ස්ත්‍රිය ඒ යශෝධරාව මමයි. එහෙම කිය කිය තමයි ඇය පෙළහර පෑවෙ. ඒ පෙළහර පෑම අවසානයේ තථාගත අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ඒ උතුම් සිරිපා කමල් යුගය වන්දනා කරලා යශෝධරා අර්හත් උත්තමාවිය පිරිනිවන් වැඩම කලා. අනුපාදිශේෂ පරිනිර්වාන ධාතුවෙන් පිරිනිවන් පා වදාළා, මේ මහපොළොව කම්පිත වුනා. මහපොළොව සැලී ගියා. ඒ මහා යසස් ඇත්තිය, පිරිනිවන් පාන මොහොත් ඒ මහා පින් ඇත්තිය පිරිනිවන් පානා මොහොතේ දීර්ඝ සංසාර ගමනක පතිවෘතා ධර්මය මැනැවින් පිරූ ස්ත්‍රිය පිරිනිවන් පානා මොහොතේ, ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් බිහිවීම පිණිස බෝධි සත්වයෙක් පාරමිතා පුරනකොට ඒ බෝධිසත්වයන් සමීපයේම ඉඳලා පාරමිතා ධර්මයන් පුරාගන්න උපකාර කරපු ස්ත්‍රිය පිරිනිවන් පාන මොහොත් මේ මහා පෘථිවය කම්පිත වී ගියා. දෙවියන්ගේ සාධුකාර තුන්ලොව පුරා ගිගුම් දුන්නා.

ඉතින් අපිත් නමස්කාර කරමු ඒ අර්හත් උත්තමාවියට, යශෝධරා අර්හත් තෙරණියට නමස්කාර වේවා කියන අදහසින් වන්දනා කරගෙන පින්වතුන්ලා මේ ගාථාව කියමින් රහත් තෙරණියව වඳින්න. යාහි රූපා දස්සනීයා භික්ෂුණී සංඝසෝභනී සා ආස වා පරික්ඛීණා වීතරාගා මහිද්ධිකා තං මහා පුඤ්ඤවතිං පරිනිබ්බුතිං වන්දාමි රාහුලමාතා යශෝධරාති.

අද දවසේ මේ උතුම් සද්ධර්ම දේශනාව තුලින් අප රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් කරමු සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරුන්, සෙන්පති දෙවිවරුන් ප්‍රධාන දෙවියෝ සතුටු සිත් උපදවාගෙන පින් අනුමෝදන් වෙත්වා, පින් අනුමෝදන් වෙන දෙවියෝ දිව්‍ය යසඉසුරින් දිව්‍ය සැපයෙන් වැඩෙත්වා, ඒ සියලු දෙවියන්ගේ රැකවරණය, ආශිර්වාදය, උපකාරය අප හැමදෙනාට දෙවියෝ නොඅඩුවම සලසා දෙත්වා, දෙවියෝද සංසාර දුකින් අතමිදෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අප හැමදෙනාගේම කල්‍යාණමිත්‍ර ගුරුදේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට පින් අනුමෝදන්ව නිදුක් නිරෝගී සුව සැලසේවා. දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ගුරු දේවයන් වහන්සේට ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද දවසේ මේ ධර්ම දානමය පින්කම සිදුකරන ඒ පින්වත් සුමුදු නිර්මාලී දියණිය බලාපොරොත්තු වෙන ආකාරයෙන්ම හුණුමුල්ල මෙත් සිසිල භාවනා අසපුවේ පින්වත් සංඝෝපස්ථායක ස්වාමීන් වහන්සේ ඇතුලු පූජනීය මහාසඟරුවනට මේ සියලූම පින්පෙත් අනුමෝදනා කරන්නට බලාපොරොත්තු වෙනවා. හුණුමුල්ල මෙත් සිසිල භාවනා අසපුවේ පින්වත් සංඝෝපස්ථායක ස්වාමීන් වහන්සේට, අනිකුත් ස්වාමීන් වහන්සේලා සෑම සියලු දෙනා වහන්සේට, මහමෙව්නා වාසී, රටලෝක වාසී සිල්ගුණදම් පුරන පූජනීය මහාසඟරුවනට පින් අනුමෝදන්ව, පින්වතුන් වහන්සේලා නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ ලබත්වා, ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය සුවසේම අවබෝධ කරන්න ලැබෙත්වා, සාදු සාදු සාදු!!! ඒ වගේම මේ උදාරතර පුණ්‍ය ධර්මය රැස් කරලා බලාපොරොත්තු වෙනවා හුණුමුල්ල මෙත් සිසිල භාවනා අසපුවේ ඒ උතුම් චෛත්‍ය රාජයාණන් වහන්සේ සුවසේම ඉදිකොට ගෞතම බුද්ධ ශාසනයට පූජා කිරීමේ පින්කමට මේ රැස් වූ සියලු පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාද සැලසේවා කියන ප්‍රාර්ථනාව මේ ධර්ම දානමය වශයෙන් යශෝධරා අර්හත් උත්තමාවියගේ චරිතාපදානය, ධර්ම දානයක් විදියට අහන්න

සැලැස්වීමෙන් සැලසුනු සියලූම පුණ්‍ය ධර්මයෝ සියලු දෙවියනගේ ආශිර්වාදය ඒ වගේ උතුම් බුද්ධ රත්නයේ ධර්ම රත්නයේ සංඝ රත්නයේ ආශිර්වාදය ඒ සෑ කර්මාන්තයේ කටයුතු වලට නොඅඩුවම සැලසිලා, ඒ මෙත් සිසිලා මහමෙව්නා භාවනා අසපුවේ උතුම් චෛත්‍ය රාජයාණන් වහන්සේ ඉතා සුවසේ ඉදිකොට ගෞතම සම්මා සම්බුද්ධ ශාසනයට පූජා කරන්න, ඉතා ඉක්මණින්ම පූජා කරන්න අවකාශ සැලසෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පූණ්‍ය ධර්මයෝ මීට මාස තුනකට පෙර හුණුමුල්ල මෙත් සිසිල භාවනා අසපුවේ ඒ අභිනවනයෙන් ඉදිවන චෛත්‍ය රාජයාණන් වහන්සේට උපස්ථාන කරමින් සිටියදී හදිසි අනතුරක් හේතුකොටගෙන මියපරලොව යන්න යෙදුනා වූ පින්වත් අමිල බාලසූරිය ස්වාමීපුරුෂයාට මේ සියලූම පුණ්‍ය ධර්මයන් අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. කල්‍යාණමිත්‍ර ඇසුර නිරන්තරයෙන් සාංසාරික ජිවිතයේ ලැබෙත්වා. උතුම් චතුරාර්ය සත්‍යය අවබෝධ කරගෙන සසර දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබෙත්වා කියන අදහසින් පින් අනුමෝදනා කරන්න. ඒ වගේම සුමුදු නිර්මාලී දියණියගේ නමින් මියපරලොව ගිය දෙමව්පියන් වන ධර්මරත්නය පියාණන්ට සහ නන්දාවතී මෑණියන්ට පින අනුමෝදන් වෙත්වා. හුණුමුල්ල මෙත්සිසිල භාවනා අසපුවේ සංඝෝපස්ථායක ස්වාමීන් වහන්සේ නමින් මියගිය මීට වසරකට පෙර මියගිය මහගල්කඩවල පුංචි මැණිකා මෑණියන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. අපි හැමදෙනාගේ නමින් මියගිය ඥාතීන්ට පින් අනුමෝදන් වෙලා, ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා, ඥාතීන්ට මේ දුක් සහිත සසරින් ඉතා ඉක්මණින් නිදහස් වෙන්න ලැබෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනාව සිද්ධ කරන්න. සුජීවත්ව සිටින විල්බර්ට් බාලසූරිය පියාණන්, මල්ලිකා ගුණසේකර මෑණියන්ට, වරුණි ලක්මාලි සොහොයුරියට, රුවන්දි බාලසූරිය සොහොයුරිය ඇතුලු පවුලේ හැමදෙනාට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ධර්ම දානය සිදු කරන පින්වත් සුමුදු නිර්මාලී දියණියට මේ සියලු පින් අනමෝදන් වෙලා මේ හැමදෙනාට කිසීම කරදරයකින් බාධාවකින්, හිරිහැරයකින් පීඩාවකින් තොරව සුවසේ ධර්මයේ හැසිරෙන්න අවකාශ සැලසෙත්වා. මේ යශෝධරා අර්හත් උත්තමාවියගේ උතුම් චරිතාපදානය, අන් අයට අහන්න සළස්වලා හිත් පැහැදවීමේ පින්කමෙන්, තමන්ට කිසීම කරදරයකින්, බාධාවකින්, හිරිහැරයකින් තොරව ශක්ති සම්පන්නව ගුණධර්ම දියුණු කරගන්න අවකාශ ලැබෙත්වා, ඒ සඳහා තියෙන සියලු කරදර බාධා දුරු වේවා. සුවසේ ගුණ දහම් දියුනු කරගෙන සුවසේම පින් රැස් කරගෙන ගෞතම

ශාසනයෙ චතුරාර්ය සත්‍යය අවබෝධයෙන් සැනසෙන්න ධර්ම දානය සිදු කරපු පින්වතන්ලා හැමදෙනාටම වාසනාව ලැබෙන්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ හැමදෙනාටත්, සුපින්වත් ඔබ සෑම සියලු දෙනාටත් මේ ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්න වාසනාව ලැබෙන්වා, හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=jpy-4rggo7E

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වයන් දරනු ලබන්නේ සමන් නිවස, දොඩන්ගහදූරුව, මඩුකොටන්නරාව, බඩල්කුඹුර ලිපිනයේ පදිංචි හැත්තෑවෙනි ජන්ම දිනය සමරන පින්වත් එච්.එම්. චන්ද්‍රපාල මහත්මා සහ ඒ මහත්මියත් පවුලේ දූදරු සෑම සියලු දෙනා ඒකරාශී වෙලා ඒ ධර්මදානමය පින්කම සිද්ධකරනවා, ඒ ජන්මදිනය නිමිති කරගෙන සිද්ධ කරන්නේ ධම්මදානය. ධම්මදානං සබ්බදානං ජිනාති- සියලු දානයන් පරදවලා ධර්ම දානයම ජයගන්නේය. ධර්ම දානය ජයගන්නට හේතුව මොකක්ද, ධර්මය දන්දෙනවා කියලා කියන්නෙ අමෘතය දීමයි. ධර්මය දන්දෙනවා කියලා කියන්නෙ සැනසිල්ල දීමයි. ධර්මය දන්දෙනවා කියලා කියන්නෙ සුවය දීමයි. ධර්මය දන්දෙනවා කියලා කියන්නෙ සත්‍යය දීමයි. මේ දුක් විඳින ලෝකයේ පින්වතුනේ සැපයක් සැනසිල්ලක් ශාන්තියක් හැබෑවටම ලැබෙනවා නම් ධර්මය නිසා. ජීවිතයට සහන් සුවයක් හැබෑවටම ලැබෙනවා නම් ධර්මය නිසා. ජීවිතයේ තිබෙන සන්තාප හැබෑවටම නිවෙනවා නම් ධර්මය නිසා, අද අහන බණපදයෙන් ඔබට ඒක තේරේවි,

සන්තාප නිවන්න. දුක් වේදනා නිවන්න, ධර්මය විනා වෙන දෙයක් නම් නෑ. මේ බණ කතාව අහපුවාම ඔබට හිතේවි ධර්මය නොතිබ්බා නම් කියලා. ධර්මය නොතිබ්බා නම් මේ කාලකණ්ණි සසරේ මේ බිහිසුණු සසරේ, මේ නීච සසරේ, මේ ම්ලේච්ඡ සසරේ වෙන පිහිටක් නෑනෙ. ධර්මය තමයි දූපත. ධර්මය තමයි රැකවරණය. මේ මහා බිහිසුණු අරමුණු සහිත සංසාරෙ ධර්මය කියන දූපත නොතිබ්බා නම්, ධර්මය කියන රැකවරණය නොතිබ්බා නම් මේ බණ පදය අහද්දි එහෙම හිතෙයි. අද අපිට ශ්‍රවණය කරන්න තියෙන්නෙ අපි අනුපිළිවෙලින් අර්හත් තෙරණිවරුන්ගේ චරිතාපදානයන් ඉගෙන ගත්තානෙ. ඒ ථෙරී ගාථා අතරේ අපිට තියෙන්නෙ උප්පලවණ්ණා තෙරණියගේ ගාථා. නමුත් මේ උප්පලවණ්ණා තෙරණියගේ ගාථා වල ආරම්භක ගාථා පහ උප්පලවණ්ණා තෙරණියගේ ගාථා නොවෙයි. ඒ උප්පලවණ්ණා අර්හත් තෙරණියට වෙනත් අර්හත්වයට පත් වූ තෙරණියක් කියූ කතාවක්. ඒ කියූ කතාවයි අපි අද ඉගෙන ගන්නෙ. මේ කතාව කියූ තෙරණිය සම්බන්ධයෙන් වැඩි විස්තරයක් නෑ. හැබැයි ඒ ඇයගේ කතාව, ඒ කතාව මේ සාංසාරික ගමනේ බොරුව විනිවිද ඇත්ත දකින්න අපිට උපකාරී වෙනවා. මේ සංසාර ගමනේ යනකොට මේ බොරු වලට මුලා වෙන්නේ නැතිව සත්‍යය දකින්න අපිට ඇගේ කතාව උදව් වෙනවා. ඈ උපන්නේ සැවැත් නුවර, සැවැත් නුවර ස්ත්‍රියක් විදියට ඉපදිලා තරුණ වයසට එද්දී ඇයව වෙළෙඳ කුලයක ධනවත් වෙළෙන්දෙකුට විවාහ කරලා දුන්නා. විවාහපත් වුනාට පස්සෙ සාමාන්‍යයෙන් බොහෝ විවාහ ජීවිතවල තියෙන අරගලය එහෙත් තිබුනා, නැන්දම්මා ලේලි අරගලය. මහා යුද්ධ. නැන්දම්මා ලේලිට ඇනුම්පද කියන එකමයි වැඩේ, නපුරු නැන්දම්මා කෙනෙක් ඇයට ලැබුනේ. ඒ නැන්දම්මත් එක්ක හැරෙන්න බෑ, හැරුනත් වැරදියි. මොනවා කලත් වැරදියි. නැන්දම්මාගේ අරගල කොච්චර තිබුනත් ඇය තමන්ගේ ස්වාමිපුරුෂයත් එක්ක ජීවිතේ ගත කලා. ස්වාමිපුරුෂයාත් එක්ක ඒ දුක බෙදාගත්තා. මොකද ස්වාමිපුරුෂයා හැමතිස්සේම ඇගේ හිත සනසන්න හිටියා. සමහර ස්ත්‍රියකට එහෙම ලැබෙන්නෙත් නෑනෙ. සමහර ස්ත්‍රීන් ස්වාමිපුරුෂයාගේ නිවසට ගිහිල්ලා හිරවෙනවා, එහෙම සැනසිල්ලක්වත් නෑ. අවසානෙ මහා ගිනිගෙයක් බවට පත්වෙනවා ඇගේ ජීවිතේ. ඉතින් ඔහොම ඉද්දි වෙළෙඳ කටයුත්තක් උදෙසා ස්වාමිපුරුෂයාට දුරු රටකට යන්න සිද්ධ වුනා. ඔහු මේ තමන්ගේ බිරිඳත්, තමන්ගේ නිවසත් අත්හැරලා වෙළෙඳ කටයුත්ත උදෙසා දුරු රටට ගිහින් ඉද්දී ඇගේ කුසේ දරුවෙක් පිළිසිඳගෙන ඒ දරු ගැබ මෝරන්න පටන් ගත්තා. දැන් ගැබ මෝරලා පිළිසිඳගත්තා කියන

සටහන මතුවෙනකොට ස්වාමිපුරුෂයා නිවසේ නෑ. නපුරු නැන්දම්මා කෙනෙක් ඉන්නකොට ඔහොම එකක් වුනොත්, හිතන්නකො සිද්ධ වෙන දේ. මේ නැන්දම්මා ඔන්න හැදුවා පදයක්. එකත් එකටම මේකි මගේ පුතා දුරු රටට ගියපු වෙලාවේ වෙන මිනිහෙක් එක්ක ඉඳලා. නැත්නම් මගේ පුතා බැහැරව ඉද්දි කොහොමද මේ ගැබ්බර වුනේ. මුළු පවුල් පසුබිමෙන්ම ඈට එක දිගට, එක දිගට නින්දා අපහාස එන්න පටන් ගත්තා. ඈට විසුමක් නැති වුනා. ඈට පස්සෙ කල්පනා කලා මගේ ස්වාමිපුරුෂයා දුරු රටකට ගියත් ඒ දුරු රටට මං ඔහුව හොයාගෙන යනවා. ඔහු දන්නවා මේ ඔහු නිසා උපන්න, ඔහු නිසා පිළිසිඳ ගත්ත දරු පැටියා කියලා ඔහු දන්නවා, මං ඔහුව හොයාගෙන යනවා කියලා පිළිසරණක් නැති තැන පාන්දරජාමේ ගෙදරින් එළියට බැස්සා. ගෙයින් එළියට බැහැලා පින්වතුනේ මේ යම් පමණක් මාස කීපයක් මෝරපු බඩකුත් තියාගෙන මේ තරුණ අම්මා පාරක් පාරක් ගානෙ යනවා, ස්වාමිපුරුෂයා ගියපු ඒ ප්‍රදේශය අහගෙන ඒ ප්‍රදේශයට මේ අම්මා යනවා. තැනින් තැන නැවති නැවති මහා දුකක් වින්දා. ගොඩාක් කල් ගත වුනා. තැනින් තැන නැවති නැවති ඈ යනකොට ගැබ හොඳටම මේරුවා. ගැබ මෝරලා දරු පැටියා බිහිවෙනවා එක නගරයකදි. මේ දරු පැටියා බිහිවුනේ අම්බලමක. අම්බලමේ දරු පැටියා බිහිවුනාට පස්සේ මේ අම්මා දැන් තුවාල හොඳ වෙන්නත් ඕන, අමාරුයි. මේ අම්මා දරු පැටියා ටිකක් උපන්න හැටියේම දරු පැටියා අරගෙන ඇවිදින්න කරන්න බැරි නිසා දරු පැටියාත් මෝරනකම් කියලා ටිකක් ඒ අම්බලමේම නැවතුනා. ඔය අම්බලමේ නැවතිලා, දැන් අම්බලමම නිවස කරගෙන තමයි මේ තරුණ කාන්තාව ඉන්නෙ. ඈ එහෙම සිටියදී මේ අම්බලමේ උදෑසනම කාලෙ දවසක් තමන්ගේ දරු පැටියා හොඳට රෙදි කෑල්ලක් එලලා තියලා ඈය බැහැර ගියා චුට්ටක් දරු පැටියාගෙන් බැහැරට. ශරීර කෘත්‍යය කිරීම පිණිස ඈ චුට්ටක් ඈතට ගියා. ඒ ඈතට ගියපු වෙලාවෙම මෙතෙන්ට පැමිණිලා ආගන්තුක පිරිසක් ඒ අය ගැල් කණ්ඩායමක්, ඒ ගැල් කණ්ඩායම මෙතන නවාතැන් ගැනීම පිණිස පොඩි විවේකයක් ගැනීම පිණිස මෙතෙන්ට එනකොට මෙන්න දරු පැටියෙක් විතරක් තනියම අම්බලමේ ඉන්නවා. එතන හිටියා දරුවො නැති කාන්තාවක්. ඒ කාන්තාව මේ දරු පැටියා දැක්ක ගමන් දුවගෙන ගිහිල්ලා වඩාගත්තා. වඩාගෙන අනික් මිනිස්සුන්ට කිව්වා, මේ බලන්නකො කවුරුහරි වෛශ්‍යාවක්, කවුරුහරි වෙසඟනක් දරුවෙක් වදලා අනේ ඒ දරුවව මේ අම්බලමේ සීතලේ ගැහි ගැහී දාලා ගිහිල්ලානෙ. මේ දරුපැටියාව මං මගේ දරුවෙක් විදියට හදාගන්නවා කියලා දරු පැටියාව ගත්තා. අරගෙන

මොහොතක් එතන රැඳුන් නෑ. රැදෙන අදහසත් අත්හැරලා කරත්තෙ නැගලා පිටත් වුනා. යාන්තමට පොඩ්ඩකට ඇහැ එහෙට මෙහෙට වෙච්ච වෙලාවේ තමන්ගේ දරුවාගෙන් ඇහැ පොඩ්ඩකට එහෙ මෙහෙ වෙච්චි වෙලාවේ බලන්න වෙච්චි නස්පැත්තිය. මේ හිටපු දරු පැටියා තමන් ශරීර කෘත්‍යය කරලා එනකොට නෑ. දරාගන්න බැරිව ඉහිළුම් නැතිව පපුව අත ගගා ඇඬුවා. පිස්සෙක් වගේ ඒ මේ අත දවස් දෙක තුනක් දුව දුවා හෙව්වා. අනේ මගේ දරු පැටියා කවුද අරගත්තෙ, මෙන්න මේ වගේ දරු පැටියෙක්, ඒ දරුවාව දැක්කදෝ, හැමෝගෙන්ම ඇහුවා. නමුත් කිසිකෙනෙක් ඒ දරුපැටියාව දැකලා තිබුන් නෑ. මොකද ඒ ගොල්ලො ගැල් කණ්ඩායමක්, ඒ ගොල්ලො ඒ නගරය අත්හැරලා ගොඩාක් දුරට ගියා. ඇයට දරුවා හොයාගන්න බැරිව ගියා. මේ සිදුවීම වෙනකොට ඇයට මහා වයසක් නෑ. ඇය අවුරුදු දාසයෙන් විතර තමයි විවාහ වුනේ. මේ වෙනකොටත් ඇය අවුරුදු විස්සක දහඅටක වගේ තැනැත්තියක්. එතකොට ඇයට දැන් මේ ජීවිතේ කියන එක තදටම කළකිරිලා. ඒ කළකිරීමෙන් ඈ ඇවිදගෙන යනකොට ඈ හරි හැඩකාරයි, තාම තරුණ වයසේ, ඇව දැක්කා එක නගරයක හිටපු දාමරික සොරදෙටුවෙක්. මේ සොරදෙටුවා ඇයව දැකලා ඇයව බලහත්කාරයෙන්ම ඇය අකමැති වෙද්දීම ඇයව එකතු කරගෙන ගියා තමන්ගේ නිවසට. නිවසට එක්කං ගිහිල්ලා අඹුව තනතුරේ තියාගත්තා. දැන් ඈ සාමාන්‍යයෙන් තරුණ වයසටම එනකොටම කාත් කවුරුවත් නැතිව හිටපු ඇය දැන් අකමැත්තෙන් වුනත් වෙනත් මිනිහෙක්ගේ බිරිඳක් වෙලා. ඒ මනුස්සයා නිසත් ඇය ගැබ් ගත්තා. ඒ ගැබ් අරගෙන ඈ වැදුවා පුංචි දූපැටික්කියක්. ඒ වතාවෙ දියණියක්. ඇයට මේ දුව ලැබුනාට පස්සෙ හරී සන්තෝෂයි. ඇගේ ජීවිතයට ආයෙමත් ආලෝකයක්, ආයෙමත් පණක්. දැන් මේ දුවත් එක්ක හරී සන්තෝෂයෙන් දුවත් එක්ක හුරතල් වෙවී ඈ ඉන්නවා. මේ මනුස්සයා දාමරිකයා, බේබද්දා, හැමදාම බීගෙන ගෙදර එන්නෙ. බීගෙන ගෙදර ඇවිල්ලා බොහෝ අවස්ථාවල මෑට පහර දෙනවා. දරුවා උපන්නා කියලා වෙනසක් වුන් නෑ මේ මනුස්සයාගේ. අනේ අර අතදරුවා ඉන්න අම්මාටත් මේ මනුස්සයා ඇවිල්ලා පහර දෙනවා. එහෙම පහරදෙනකොට අතේ දරුවා වඩාගෙන හිටියා, වඩාගෙන හිටපු දරුවාව මේ මනුස්සයා ඇදලා අරගෙන විසික්කලා. ඒ විසී කරනකොට මේ දරුපැටියා කරකැවිලා ගිහිල්ලා දරුවාගේ ඔළුව වැදුනා ඇඳේ ඇඳවිට්ටමේ. ඔළුව පැලිලා ලේ ආවා. ඇයට ඒ දර්ශනෙන් ඇට හිතුනේ මගේ දරුපැටියා මැරුණා කියන එක. ඇයට හරි වේදනාවක් හටගත්තා. ඇය වචනයක් වත් කතා කලේ නෑ. ඇය වචනයක් වත් කතා

නොකර එහෙම්මම බැස්සා ගෙදරින් එළියට. ගෙයින් එළියට බැහැලා පින්වතුනේ දැන් අෑ ආයෙමත්, දැන් අෑ බොහොම තරුණ වයසේ අෑ ආයෙමත් කාත් කවුරුවත් නැති පාරේ යන තැනැත්තියක්. පින්වතුනි මනුස්සයන්ගේ ජීවිත වලට මෙහෙම වෙනවනෙ. මනුස්සයන්ගේ ජීවිත වල මේ වගේ අනපේක්ෂිත දුක්ගිනි කරදර කොච්චර කඩා වැටෙනවාද. ඒ කඩා වැටෙනකොට බාහිර කෙනෙක් ඒ කතන්දරය ගැන නොයෙකුත් විදියට කතා කරාවි. ඇතැම් කෙනෙක් සමහර වෙලාවට ඒ කතාව අහගෙන ඒ කතන්දරය ලියාවි. ඒ කතන්දරය තවත් කෙනෙක් තමන්ගේ ජීවිතයට නොයෙක් නොයෙක් විදියට ගනීවි. නමුත් ඒ කතන්දරයේ හැබෑ උරුමක්කාරයා, ඒ කතාවට ඒ අත්දැකීමට හැබෑවටම මුහුණ දෙන කෙනා, ඒ කෙනා කොච්චර කටුක, කර්කශ වේදනා උහුලන්න ඕනද. කායික වේදනාවකට වඩා කොච්චර බරපතලයිද, හදවතක ඇතිවන වේදනාව. දරුවො දෙන්නෙකුටම අම්මා කෙනෙක් වෙච්චි කෙනෙක්. ඒ දරු පැටව් දෙන්නාම තමන්ගේ ඇස් පනාපිටම තමන්ට අහිමි වෙලා ගියා. ස්වාමිපුරුෂයො දෙන්නෙක්ගේ බිරිඳක්. ඒ ස්වාමිපුරුෂයො දෙන්නාගේම සෙනෙහස ඇයට අහිමි වෙලා ගියා. දැන් ඇයට විවාහ ජීවිතේ තිත්ත වුනා. ඇය පාරට බැහැලා යනවා, පාරට බැහැලා ගිහිල්ලා සාමාන්‍යයෙන් ඇය බොහෝ කාලයක් යලි කොච්චර යෝජනා ආවත්, කොච්චර පුරුෂයෝ ඇයට ආරාධනා කලත් ඇය විවාහ ජීවිතේකට එළඹුන් නෑ. කාලෙකට පස්සෙ බොහොම කාලයක් ගතවෙලා තියෙද්දී ඇය ඒ වෙනකොට වැඩිමහල්. නමුත් ඇගේ රූසිරි පිරිහිලා තිබුන් නෑ. ඇයව දකිනවා එක තරුණ බොහෝම තරුණ පහේ තරුණ වයසේ හිටපු හොර දෙටුවෙක් ඇව දකිනවා. මේ හොර දෙටුවා තමන්ගේ බලයෙන් මේ කාන්තාව ගැන හිතක් ඇතිවෙලා, මේ කාන්තාව දැක්ක ගමන් හොර දෙටුවාට හිත ගියා. හිත ගිහිල්ලා අෑ ළඟට ඇවිල්ලා කිව්වා මං තිට කැමැතියි, මට තීව විවාහ කරගන්න ඕන. දැන් මේ හොරෙක්නෙ. හොරෙක් නිසා මේ ආරාධනා මොකුත් නෑ. බලහත්කාරයෙන් තමයි වැඩ. මට තීව විවාහ කරගන්න ඕන කිව්වා. එතකොට ඇය කිව්වා මම විවාහයකට මනාප නෑ. අනික මං වයසින් ගත්තොත් එහෙම ඔබට වඩා ගොඩාක් වැඩිමහල්. ආ, ඒකට කාරි නෑ, තී වරෙන් මාත් එක්ක කියලා ඇව කරත්තෙ දාගෙන එක්කං ගියා. දැන් ඒ තරුණ හොරදෙටුවාගේ බිරිඳ බවට පත්වෙන්න ඇයට සිද්ධ වුනා. ඒ තරුණ හොරදෙටුවාගේ බිරිඳ බවට පත්වෙලා, හැබැයි ඇය ඒ හොරදෙටුවාගේ පතිනිය විදියට, ස්ත්‍රියක් විදියට බොහෝම ආදරෙන් හිටියා. දැන් ඔන්න විවාහ ජීවිතේට එළඹිලා යලිත් කාලෙ ටික ටික

ගතවෙනවා. හැබැයි ඇයට දැන් දරුවො නෑ. දරුවො නැතිකොට ඔන්න නැන්දම්මාගේ ආඩපාලි ටික ආයෙ පටන් ගන්නවා. මේවා ඇයට හුරුයි. මොකද මුලින්ම ජීවිතේ නැන්දම්මාගේ ආඩපාලි අහපු කෙනා. ඇය එතකොට බොහෝම මධ්‍යස්ථව හිතුවා. ඈ කල්පනා කලා නැන්දම්මා කියන්නෙ ඇත්ත. මේ වගේ තරුණ කොළුගැටයෙක්ගේ බිරිඳට දරුවෙක් නෑ කියලා කියන්නෙ ඒක හරි මදි. ඒ නිසා මංම මෙයාට යෝජනා කරන්න ඕන කියලා, ඒ හොරදෙටුවාට ඈම කතා කලා, ඈම කතා කරලා කියනවා, මම හිටියාට කාරි නෑ. මං බිරිඳ විදියට ඉන්නවානෙ කියලා ඔයා වෙන කෙනෙක් ගැන නොහිතා ඉන්න ඕන නෑ. ඔයාට මනාප වෙන හොඳ තැනකින් බලලා තරුණ වයසේ ගෑණු කෙනෙක්ව එක්කන් එන්න. මං අක්කා කෙනෙක් වගේ ඇයට සෙනෙහසින් ඉන්නම්. එතකොට තරුණ වයසේ ඉන්න හින්දා ඇයට දරුඵල තියේවි. මගෙන් නම් දරුඵලයක් බලාපොරොත්තු වෙන්න බෑ කිව්වා. එතකොට ඇගේ නිතර නිතර කීම නිසා හොරදෙටුවාට හිතක් උපන්නා එහෙනම් ඇත්තටම මං තව එකියක්ව කැන්දන් එන්න ඕන. ඔන්න තවත් කාන්තාවක්ව හොඳ තැනකින් කියලා බලලා පවුල් කතා කරගෙන හොඳ මගුල් උත්සවයකුත් තියලා එකතු කරගෙන ආවා. ඒ එකතු කරගෙන ආපු කෙනා මේ කාන්තාවට වඩා බොහොම වයසින් අඩුයි. දුවක් හා සමානයි. ඉතින් ඈ අක්කා කෙනෙක්, අම්මා කෙනෙක් වගේ අර අලුතෙන් ගෙනාපු කාන්තාවට සමීප වුනා. දැන් සාමාන්‍යයෙන් නම් මේ සම බිරින්දෑවරුන් කියලා කියන්නෙ මහා ප්‍රශ්න පවුල් වල. ඒක මෙතන තිබ්බෙ නෑ, මොකද මෑ ජීවිතේ ගැන  යමක් බරට හිතපු කෙනෙක්. ජීවිතේ කියන එකෙන් බොහෝ සේ ගුටිකාපු කෙනෙක්. සාමාන්‍ය විවාහ ජීවිතේ කියන එකේ මවලා දෙන සුන්දර ලෝකයේ, ඒ සිහින ලෝකයේ ඒක තුළ නෙවෙයි ඈ ජීවත් වුනේ. ඇය විවාහ ජීවිත දෙකකින්ම ගුටිකාපු කෙනෙක්. කටින් කියන්න බැරි අතීතයක් තිබුනු කෙනෙක්. ඇගේ අතීතය කවුරුත් දන්නෙ නෑ. ඈ දැන් අවුරුදු හතළිහකටම කිට්ටු වෙලා, ඈ දැන් අර අලුතින් කැන්දාගෙන ආපු ඒ කාන්තාවට අම්මා කෙනෙක් වගේ වෙලා, අක්කා කෙනෙක් වගේ වෙලා හරි සෙනෙහසින් හිටියා. මෙහෙම සෙනෙහසින් ඉන්නකොට ඔන්න ඇය ගැබ්බර වුනා. ඈ ගැබ්බර වුනාට පස්සෙ දැන් ඇයට තනියම කටයුතු කරගන්න බෑ. අර කාන්තාව උදව් කරනවා. දවසක් මේ කාන්තාව අලුතින් ගෙනාපු ඒ තරුණ බිරිඳගේ, ගැබ්බර බිරිඳගේ කොණ්ඩෙ පීරමින් ඉන්නවා. ඒ කොණ්ඩේ පීරමින් සිටිද්දී පින්වතුනේ අර කෙස්රොදවල් එකින් එක මෑත් වෙනකොට ඇයට දකින්න ලැබුනා, දිග පැල්මක් ඔලුවේ. ඒ පැල්ම මීට පෙර දැකලා තියෙනවා

කියලා මතකයක් ඇගේ හිතට ඇතිවුනා. ඇයට එකපාර මතක් වුනා ඒ පැල්ම ඒ විදියටම ඈ දැක්කා මතකයි. ඇගේම දුව තමන්ගේ බීමත් ස්වාමිපුරුෂයා විසින් විසික්කරනකොට ඇඳ විට්ටමේ දූගෙ ඔළුව වැදුනා. ඒ ඔළුව වැදිච්ච වෙලාවේ දූගේ ඔළුවේ පැල්මක් හටගත්තා. ඒ පැල්ම සටහනත් මේ වාගේ නේද තිබුනේ. අන්න ඇයට මතක් වුනා. මතක් වෙනකොට මුළු සර්වාංගෙටම දාඩිය දැම්මා, හප්පේ මේ මගේ දුවවත්ද. ඇය විස්තර අහනවා එකින් එක. නංගී මට කියන්න ඔයාගේ මේ ඔළුවේ මොකද පැල්මක්? එතකොට කියනවා අනේ අක්කණ්ඩි මං ඕක ගැන මොකුත් දන්නෙ නෑ. මට තේරෙන කාලෙ ඉඳලා ඔය පැල්ම තිබුනා. මට මගේ අත්තම්මා කිව්වෙ මගේ අම්මා ඔන්න ඔය පැල්ම වෙච්චි දවසේලු මාව දාලා ගෙදරින් ගියේ. අපේ තාත්තා හරී නපුරුයි, තාත්තා බීගෙන නිවසට එන්නෙ. ඉතින් ඒ කාලෙ මං ඉපදිච්චි මුල් කාලෙ මයෙ අම්මත් එක්ක නිතර නිතර රණ්ඩු කරගෙන තියෙනවා. ඒ රණ්ඩු අතරේ දවසක් තාත්තා මාව ඇදලා දානකොට තමයි මගේ ඔළුව හැප්පිලා මේ පැල්ම ඇතිවෙලා තියෙන්නෙ. අම්මා හිතලා තියෙන්නෙ මං මලා කියලා, ඒ මගේ අම්මා මං දිහා ආයෙ හැරිලාවත් බලන්නෙ නැතිව අනේ අම්මා ගෙදරින් බැහැර ගියා ගියාමලු, අනේ මං කවදාවත් දැකලා නෑ මගේ අම්මා මොනවගේද කියලාවත් මං දන්නෙ නෑ අක්කණ්ඩි කියලා මේ කතාව කිව්වා. ඒ කතාව කියනකොට ඈ කැන්දාගෙන ආපු ප්‍රදේශය සිහි කරනකොට ඒ ඔක්කොම ගානට ගැළපෙනවා. මේ කවුද මේ? තමන්ගේම දුව. තමන්ගේම දියණියත් එක්ක එකම මනුස්සයාගේ සමබිරින්දෑවරු විදියට ඉන්න වුනා. හිතට කොච්චර ලැජ්ජාවක්ද, හිතට කොච්චර පීඩනයක්ද, තමන්ගේම දුවගේ ස්වාමිපුරුෂයා තමන්ගේත් ස්වාමිපුරුෂයා. කොයිතරම් පහත් හැඟීමක් තමන්ගේ හදවතට දැනෙනවාද. මේ හිත කොච්චර චෝදනා කරන්න ඇත්ද, ඈ ගොඩාක් විඳෙව්වා. මේ විඳවිල්ල උහුලාගන්න බැරිව දවසක් ඈ අඬ අඬා කියනවා මේ තමන්ගේ ස්වාමිපුරුෂයාගේ අම්මාට, අනේ නැන්දම්මේ මං කවදාවත් මගේ අතීතය කියලා නෑනෙ. මට මෙන්න මෙහෙම සිද්ධියක් වුනා. ඒ සිද්ධිය මට ඒ සිදුවීම සිද්ධ වෙනකොට ඒ කියන කාල වකවානුත් එක්ක බලපුවාම මේ මගේම දුවයි මේ ඉන්නෙ කියලා. එතකොට නැන්දම්මා ඒ වෙලාවේ මැගේ ඔලුව අතගගා සනසවන්න කියනවා ආ දුවේ ඕවා කාරි නෑ, මිනිස්සුන්ට ඔහොම වෙනවානෙ. දැන් ඔය කොලු පැටියා ගත්තත් ඕකා මගේ දරුවෙක් නෙවෙයි. මට ළමයි නැහැ. අපි දවසක් ගමනක් යනකොට අම්බලමක ඔය දරු පැටියා දාලා ගිහිල්ලා තිබුනා. කවුරුහරි වෙසඟනක් දරුවෙක් වදලා ඒ දරුවව දාලා ගිහින් තිබුනා,

පිරිමි දරුවෙක් හින්දා දාලා යන්න ඇති, අපි ඒ දරුවව අරගෙන හදාගත්තා. අහවල් තැනදි, අසවල් අම්බලමේදී, ඔන්න සිද්ධිය කියනවා. දැන් සිදුවීම කියනකොට ඇ එකින් එක ප්‍රශ්න අහනවා, නැන්දම්මේ කීයට විතර වගේද, උදේ මේ වගේ වෙලාවේ. එතකොට ඇට තේරුනා, එහෙනම් එකත් එකටම මේ ඉන්නෙත් වෙන කවුරුත් නෙවෙයි, මේ ඉන්නෙත් මගේම, මගේම කුසින් උපන්න මං වැදූ ආදර පුතා. ඇත්තෙන්ම පින්වතුනි මේ සිදුවීම හිතනකොට මේ සිදුවීමට බඳුන්වෙච්චි කාන්තාව කොච්චර විදවිල්ලක් විඳවන්න ඇතිද කියලා හිතෙනවා, මොකද මනුස්සයෙකුගේ ජීවිතේ මේ වගේ අන්ත දුක්ඛිත ඉරණමක් ඒ කියන්නෙ අම්මා කෙනෙක් විදියට හදවතකින් ඒ අම්මා කොච්චර විදවන්න ඇත්ද. අම්මා කෙනෙක් දරුවෙක්ගේ දියුණුවක්ම පතනවා. දරුවෙක්ගේ යහපතක්ම පතනවා. දරුවෙක් සුවසේ නිදුකින් වැඩෙනවා බල බල අම්මා තාත්තා සන්තෝෂ වෙනවා. එහෙව් අම්මා කෙනෙකුට මෙහෙම ඉරණමක්, මෙහෙම ඉරණමකට මුහුණ දෙන්න සිද්ධ වුනාම. ඒක හරිම ශෝකාන්තයක්. ඇට උහුලගන්න බැරිව ගියා. ඇ දැන් දන්නවා, ඇ නැන්දම්මත් එක්ක ඒ මොකුත් පුවත කිව්වෙ නෑ. ඇ දැන් දන්නවා තමන් තමන්ගේම පුතාට බිරිඳ වුනා. ඊළගට තමන්ගේම දියණිය තමන්ගේ සමභාර්යාව වුනා. ඇයට ඉවසගන්න බෑ. ඇ කාටත් නොකියා ඒ නිවසිනුත් එළියට බැස්සා. පින්වතුනි එළියට බැහැලා බේරෙන්න බැරි ප්‍රශ්න මේවා. ජීවිත වල ප්‍රශ්න එනකොට එක එක තීරණ අපි ගන්නවා. ඒ තීරණ වලින් සමහර ඒවා ගෙවල් වලින් එළියට බැහැලා යන එක, ඒ තීරණ වලින් සමහර ඒවා තරහ වෙන අමනාප වෙන අයත් එක්ක කතාබහ නොකර ඉදීම. ඒ තීරණ වලින් සමහර ඒවා තමන්ට අකටයුතුකමක් කරපු කෙනාට පහරදීම. එක්කො ඒ තීරණ වලින් සමහර දේවල් මේ ලෝකෙ අත්හැරලා මං යන්න ඕන කියලා බෙල්ලෙ වැල දාගැනීම. වහ කෑම, නොයෙක් දේවල්. අපි එක එක තීරණ ගන්නවා මේ ප්‍රශ්න ඉස්සරහා සැනසුමක් හොයාගෙන. ප්‍රශ්න වලට පිළිතුරක් හොයාගෙන එක එක තීරණ ගන්නවා. හැබැයි ඒ තීරණ වලින් යළි යළිත්, යළි යළිත් දුක් පිරුණු සංසාරෙටම බැඳෙනවා මිසක් දුක් පිරුණු සංසාරෙම කොටස් කාරයො බවට පත්වෙනවා මිසක් විසඳුමක් නෑ, විසඳුමක් ලැබෙන් නෑ. වෙලාවට ඇය මේ ජීවිතේ ඇගේ අවසාන ආත්මභාවය නිසා වෙන්න ඇති මෙච්චර දුක්ගැහැට විඳගෙනත් ඇයට සියදිවි හානිකරගන්න හිතුන් නෑ. ඇයට මේ ජීවිතය එපා කියලා හිතුන් නෑ, මෙහෙම කාලකණ්ණි ජීවිතයක් මට ඕන නෑ කියලා ගඟේ මුහුදේ පනින්න හිතුන් නෑ, ඇයට රැස් කරපු පිනක් තිබ්බ නිසා. පින්වතුනේ හිතන්න සංසාර

ගමනක පින් පුරාගෙන පැමිණිලා මේ ජීවිතේ අර්හත්වයට පත්වීම පිණිස පින් තියෙන කෙනෙකුටත් මේ සාංසාරික ගමනේ මෙහෙම දුක්ඛිත ඉරණමක් උරුම වෙනවා නම් මේ අති දීර්ඝ සසරේ ඉපදි ඉපදී යන්න ගියොත් අපිට කොහොම තියෙයිද. බුදුරජාණන් වහන්සේ අවස්ථාවක වදාරනවා, මහණෙනි එක රජෙක් ළඟට හොරෙක්ව අල්ලගෙන ආවා. ඒ හොරා අල්ලාගෙන පැමිණියාට පස්සෙ රජ්ජුරුවො දඬුවම් නියම කලා. රජ්ජුරුවො කියනවා රාජපුරුෂයෙනි මේකාට හුල් පහර සියයකින් ඇනපල්ලා. මේක උනේ උදය කාලයේ. උල් පහර සියයකින් ඇන්නා. දහවල් කාලයේ රජ්ජුරුවන්ට සිහිපත් වෙනවා මේ හොරාව, රජ්ජුරුවෝ අහනවා රාජපුරුෂයෙනි, අර අල්ලාගෙන ආපු හොරා දඬුවම් ලැබූ හොරා මියගියාද. අනේ නෑ දේවයනි තාම පණපිටින්. එහෙනම් රාජපුරුෂයෙනි දහවල් කාලයේත් ඕකාට තව හුල් පහර සීයයකින් ඇනපල්ලා. දවල් සීයක ඇන්නා. හවස්වෙලා රජ්ජුරුවන්ට ආයෙමත් සිහිපත් වෙනවා, ඒ හොරදෙටුවා. රජ්ජුරුවො අහනවා රාජපුරුෂයෙනි අර අල්ලාගෙන ආපු එකා කෝ, ජීවත් වෙනවාද. දේවයෙනි උඟ තාම පණ අදිනවා. එහෙනම් තවත් සීයයකින් ඇනපල්ලා. උල් පහර තුන්සීයකින් එක දවසක් ඔහු පහර කනවා. භාග්‍යවතුන් වහන්සේ අහනවා මහණෙනි, යම් පුරුෂයෙක් හුල් පහර තුන්සීයකින් පහර කනවා නම් ඒ හුල් පහර තුන්සීයකින් පහර කෑම කියලා කියන්නෙ මහණෙනි දුක්ඛිත දෙයක් නොවේද? භික්ෂූන් වහන්සේලා කියනවා ස්වාමීන් වහන්ස, හුල් පහර තුන්සීයක වේදනාව ගැන කතා කරන්න දෙයක් නෑ, ස්වාමීනී මේ ශරීරය පසාරු කරන එකම එක හුල් පහරකිනුත් බලවත් වූ වේදනා, කර්කශ වූ වේදනා උහුලන්න අමාරු වේදනා එනවා. ස්වාමීනී තුන්සීයක් ගැන කවර කතාද. මහණෙනි, කෙනෙක් ඔබට කියනවා නම් මෙහෙම, දවසකට හුල් පහර තුන්සීය ගානෙ අවුරුදු සීයක් පුරාවට ඔබට ඇනුම් පහර කන්න සිද්ධ වෙනවා, හැබැයි දවසට හුල් පහර තුන්සීයක් ගානෙ පහර කකා ඉදලා ඒ අවුරුදු සීය ගියපු තැන මේ දුක් විඳිමින් යන සංසාරෙන් ඔබ නිදහස් වෙනවා කියලා, මහණෙනි එබඳු දේකට වුනත් කැමැතිවෙන්නයි තියෙන්නෙ. ඇයි එබඳු දේකට වුනත් කැමැති වෙන්න තියෙන්නෙ කියලා කියන්නෙ. භාග්‍යවතුන් වහන්සේ වදාළා මහණෙනි, මේ දීර්ඝ සසරේ දිගින් දිගට දිගින් දිගට යන්න සිද්ධ වුනොත් විඳවන්න තියෙන දුක් කන්දරාව ගත්තහම උල් පහර තුන්සීයකින් අවුරුදු සීයක් පහර කන එක ඉතාම පොඩි එකක්. හිමාල පර්වත රාජයාත් එක්ක පොඩිම පොඩි ගල් කැටයක් සසඳනවා වගේ. ඒ දුක් වේදනාව මහ එකක් නෙවෙයි. ඊට වඩා බොහොම කර්කශ වේදනා දීර්ඝ වූ සංසාර ගමනේ යන්න සිද්ධ වුනොත්

විඳවන්න සිද්ධ වෙනවා. පින්වතුනි මේ යන සසර එහෙම එකක්. මේ සංසාර ගමනේ ඔය කියන්නා වූ විඳවිලි වලින් සෑහෙන කොටසක් අපි විඳවලා තියෙනවා, අපිට මතක නෑ. අති දීර්ඝ වූ සංසාර ගමනක අපි අඬපු කඳුළු එකතු කලොත් සතර මහා සමුද්‍රයේ වතුර පරදිනවා නම් කොච්චර අඬන්න ඇතිද, ඒ ඇඬුමත් අම්මා වෙනුවෙන් ඇඬූ කඳුළු විතරක් සමුද්‍රයේ ජලයට වැඩියි. තාත්තා වෙනුවෙන් ඇඬූ කඳුළු විතරක් සතර මහා සමුද්‍රයේ ජලයට වැඩියි. දුව පුතා වෙනුවෙන් ඇඬූ කඳුළු විතරක් සතර මහා සමුද්‍රයේ ජලයට වඩා වැඩියි. දීර්ඝ සංසාර ගමනේ හෙළූ රුධිරය එකතු කලත් සතර මහා සමුද්‍රයේ ජලයට වැඩියි කියලා කියන්නෙ ලේසි විඳවිල්ලක් නෙවෙයි මේකෙ විඳවලා තියෙන්නෙ. හැබැයි තාම අපි ඉන්නෙ ඒ විඳවීමෙන් නිදහස් වෙලා නෙවෙයි. මේ බණ පද අපි ඇහුවත් පින්වතුනි විඳවිල්ල අස්සෙම අපි. විඳවන ස්වභාවය උරුම කරගෙනම අපි. බලන්න මේ දහසකුත් විඳවිලි අතරේ අපි හොයනවා සංසාරෙම සැපක්. මේ ජීවිතේ ප්‍රශ්න එනකොට අපි කියනවා සතුරෙකුටවත් මේවා වෙන්න එපා කියලා. පින්වතුනි සංසාරෙට අයිති දේවල්. සංසාර දුකට අයිති දේවල්. සාංසාරික ගමනකට අයිති දේවල්. ඇස් පනාපිට දරුවො අහිමි වෙනවා, ඇස් පනාපිට ස්වාමි පුරුෂයො අහිමි වෙනවා. ඇස් පනාපිට බිරින්දෑවරු අහිමි වෙනවා. ඇස් පනාපිට යහළු යෙහෙළියෝ හිතමිත්‍රයෝ අහිමි වෙනවා. ඇස් පනාපිට සකලමනාවම අහිමි වෙනවා. ඇස් පනාපිට තමන්ගේ සේසතම විනාශ වෙලා යනවා. කොච්චර දුක්ගිනි මේ ජීවිතේ තියෙනවාද, ඉතින් මේ උත්තමාවියගේ, මේ අර්හත් උත්තමාවියගේ ඒ ගිහි කාලෙ ජීවිතේ තිබ්බ විදිය බලපුවාම, උහුලගන්න අමාරු ශෝකාන්තයක් ඒ ජීවිතේ තිබුනා. ඈ පාරට බැහැලා යනවා. හැබැයි මේ පාරට බැසයාම ඇයට වාසනාව කැන්දූ එකක් වුනා. ඈ මේ ජීවිතේ මෙහෙම අවස්ථා කීපයක්ම පාරට බැස්සානෙ. ඒ පාරට බැහැපු හැම අවස්ථාවකම ඈ තාවකාලිකව කොහෙ හරි සැපයක කියලා දුකකම හිරවුනා. මේ වතාවේ ඇයට හම්බෙනවා භික්ෂුණියක්. ඇය මහා දුක් ගින්නක් බරට බරේ හදවතේ තියාගෙන පාරෙ යනකොට ඇයට පේනවා පාත්‍රයක් අතේ තියාගෙන වස්ත්‍රාභරණ සැරසිලි ඔක්කොම ඉවත් කරලා කසාවතකින් සැරසුනු මේ සැරසිලි කේශකලාප ආදිය ඉවත් කරලා හිස මුඩු කරගත්ත, කිසිම බරක් නැති, ශාන්ත හිතකින් වැඩම කරන උත්තමාවියක්. දැක්ක ගමන් හිත පැහැදුනා. හිත පැහැදිලා ඒ උත්තමාවිය ළඟට ගිහින් කියනවා, මටත් සැනසෙන්න ආසයි. මාත් සැනසිල්ල අපේක්ෂා කරනවා. භික්ෂුණිය මට සැනසෙන්න බණ කියන්න. අන්න එතකොට ඒ කාන්තාවට මේ ජීවිතේ

ගොඩාක් විඳවපු කාන්තාවට එදා සැනසිල්ලට බණ පදයක් ඇහුනා. මේ ලෝකයේ අහන දේවල් කෝටියක් අතරේ ජීවිතයට හැබෑවටම සැනසිල්ලක් සුවයක් ලැබෙන බණ පදයක් තියෙනවා නම් ඒ බණ පදය අමෘතයයි. මේ ජීවිතේ ඕන තරම් මිනිස්සු වචන වලින් ගිනි දෙනවා. වචන වලින් අන් අයව රිද්දනවා, වචන වලින් අන් අයව පාරවනවා, වචනවලින් හිත්වි පාස් කරනවා. අනිත් අයව රිදවන්න කෝටි ගණන් වචන පාවිච්ච වෙනවා. ඒ අතරේ මනුස්සයෙකුගේ ජීවිතේ සන්සිඳවන්න යම් බණ පදයක් ඇහෙනවා නම් ඒ බණ පදය අමෘතයක්. මේ ජීවිතේ මුලාව අස්මිං - මුලාවෙන් මුලාව අස්සටම යමින් තියෙනවා. මුලාවීම පිණිසම වචන ලෝකයේ අහන්න ලැබෙනවා. ඒ අතරේ ජීවිතේ ගැන තේරුම් ගන්න බණ පදයක් ඇහෙනවා නම් ඒක අමෘතයක්. ඒ නිසා සන්තෝෂ වෙන්න අද ධර්ම දානය කරන පින්වතුන්ලා, මේ දෙන්නේ අමෘතය, සැනසිල්ල, සුවය, ශාන්තිය. අර කාන්තාවට දාහකුත් ගිනි අතරේ ඒ සැනසිල්ල ලැබුනානෙ එදා. භික්ෂුණියක් ළඟ බණ ඇහුවා. බණ ඇහුවට පස්සෙ හිත පහන් වුනා. ඈය කියනවා මට ආයෙමත් මේ විඳවන ගිහි ජීවිතේ එපා. මටත් ඔබවහන්සේ ලබාගත් උතුම් පැවිද්ද දෙන්න. මටත් ඔය සැනසිල්ල ඕන. ඉතින් ඈ පැවිදි වුනා. පැවිද්දට පත්වෙලා ඉතාම කෙටි කාලයයි ඈට පුලුවන් වුනා ඇත්තටම ලෝකයේ යමකට සැනසිල්ල කියනවා නම් අන්න ඒ සැනසිල්ල ලබාගන්න, හැබෑවටම මේ ලෝකයේ සැනසිල්ල කියා කිවයුත්තේ කුමකටද? ඒ තමයි නිවන. ඉපදීමක් නැති තැන, නිවන. නාකි වීම නැති තැන නිවන. ලෙඩවීම නැති තැන නිවන. මරණයක් නැති තැන නිවන. ප්‍රිය වූ අය වෙන් වෙනවා කියලා ප්‍රශ්න නැති තැන නිවන. අප්‍රිය අමනාප දේ සිද්ධ වෙනවා කියන ප්‍රශ්නය නැති තැන නිවන. ශෝක වැළපීම් දුක් දොම්නස් සුසුම් හෙළීම් මේ කිසිවක් නැති තැන නිවන. ලොව්තුරා බුදුරජාණන් වහන්සේ නමක් සිරිසම්බුදු මුව මඩලින් දේශනා කරපු ධර්මය අනුගමනය කරලාම පසක් කල යුතු ඒ අමෘත නිවන ඈය පසක් කලා. අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. ඒ අර්හත් උත්තමාවිය තමයි මේ ගාථා මේ සිදුවීම උප්පලවණ්ණා රහත් තෙරණිය අතින් කියන්නෙ. ඉතින් ඒ උප්පලවණ්ණා රහත් තෙරණිය අතින් කියූ කතාව ඒ ගාථා වල සඳහන් වෙනවා. අපි දෙන්නා අම්මයි දුවයි එකම ස්වාමියාගේ භාර්යාවන් වෙලා හිටියා. මේ සිදුවීම මගේ ජීවිතේ අද්භූත වූත් ලොමු දැහැගැන්වෙන සිදුවීමක් වුනා. ඉතින් පින්වතුනි ඒකට මුහුණ දීපු කෙනාට ඒ දේ කොහොම දැනෙන්න ඇත්ද, තමන් මෙච්චර කාලයක් එක යහනේ නිදාගත්තෙ තමන්ගේම පුතා එක්ක කියලා දැනෙනකොට, ඒ කයටත් ඒ හිතටත් දැනෙන මහා බර ගතිය, වේදනාව, මං

මගේම කුසින් වැදූ පුතත් එක්ක එකට යහන්ගත වුනා කියන වේදනාව, මං මගේම දියණියත් එක්ක එකට පවුල් කෑවා කියන මගේම දියණි මට සම භාර්යා වුනා කියන වේදනාව, ඒක කයටත් දැනෙන හිතටත් දැනෙන උහුලගන්න අමාරු බරක්. ඒ බර ඇයට අද්භූත වූත් ලොමු දැහැගැන්වෙන සිදුවීමක් වුනා. දිරත්තු කාමා අශුචි දුග්ගන්ධා බහු කණ්ඨකා - මේ කාමයන්ට නින්දා වේවා. මේ කාමයො කියලා කියන්නෙ ඇත්තෙන්ම අපිරිසිදුයි, ගඳයි, ගොඩාක් කරදර ඇති කරනවා. මේ කාමය හින්දාමයි අම්මටයි දූටයි එකම ස්වාමියාගේ භාර්යාවන් වෙන්න සිද්ධ වුනේ. කාමය හොයාගෙන, කම්සුව හොයාගෙන යන ගමන. ඒ කම්සුව හොයාගෙන යන ගමනේ තමයි ඔය අරගල ඔක්කොම තියෙන්නෙ. ඔය අරගල ඔක්කොම එතන. අපිට අහන්න ලැබෙනවානෙ පින්වතුනේ මේ සමාජය තුළ නොයෙකුත් අක්‍රමිකතා, ළමා අපචාර, ස්ත්‍රී දූෂණ, අනියම් සම්බන්ධතා, නොයෙක් ප්‍රශ්න. මේ හැමදේම කාමය නිසා. කාමයන්ටම නින්දා වේවා. කාමයෝමයි අපිරිසිදු, කාමයමයි ගඳ. මේ කාමය කියලා කියන්නෙ මහා කරදර ගොඩාක්. මං ඒ කාමයේ ආදීනවය දැක්කා. කාමයන්ගෙන් නිදහස් වීම කෙම්බිමක් වශයෙනුත් දැක්කා. කාමයේ ඇත්ත ස්වභාවය කෙනෙකුට හරියට තේරුනොත් බුද්ධ දේශනාවේ තියෙනවා, කාමයේ ඇත්ත ස්වභාවය කෙනෙකුට තේරුනොත් එහෙම එයාට කාමයන්ගෙන් නිදහස් වීම පේන්නෙ හරියට වහල් බවකින් නිදහස් වීම වගේ. වහලෙක් වහල් කමට උරුමකම් කියලා ඉද්දි අයියෝ මේ වහල් කමින් කවද්ද මං නිදහස් වෙන්නේ කියලා හිතනවා වගේ, ලෙඩෙක් දරුණු රෝගයකින් නිදහස් වීම පතනවා වගේ  කාමයෙන් නිදහස් වීම පතන්නෙ. කාන්තාරයක අතරමං වෙලා කෑම බීම නැතිව ගියපු මනුස්සයෙක් කාන්තාරයෙන් එතෙර වෙන්න විදියක් හිතනවා වගේ, මේ කාමයන්ගෙන් නිදහස් වෙන්න හිතන්නෙ. හිරේ විලංගුවේ වැටිච්ච මනුස්සයෙක් හිරෙන් නිදහස් වෙන්න හිතනවා වගේ කාමයන්ගෙන් නිදහස් වෙන්න හිතන්නෙ. ඒ තරම් කාමයෝ කියන්නෙ කණ්ඨක. කාමය කියලා කියන්නෙ මහා දුක්ගොඩවල්. කාමය නිසාමනේ පින්වතුනි හැම ප්‍රශ්නයක්ම. මේ කාමය හින්දාම ප්‍රිය බන්ධන ගොඩාක් හටගන්නවා. ඒ හටගන්න ප්‍රිය බන්ධන ඔක්කොම අනිත්‍ය වෙලා යන වෙනස් වෙලා යන ඒවා. කාලය පැමිණියාම ඒවා අනිත්‍ය වෙලා යනවා, වෙනස් වෙලා යනවා. අපි කාමයන්ට බැඳිච්චි නිසා උහුලගන්න බැරි වද වේදනා විඳව විඳව දුක් විඳිනවා. හැමදෙනාගේ ජීවිත වල ඕකනෙ තියෙන්නෙ. මේ ධර්මය පිළිබඳව යම් වැටහීමකට නාවොත් හැම කෙනෙකුගේ ජීවිත වල ඔය ප්‍රශ්නය තියෙයි. ඒ නිසා

මේ ප්‍රශ්නය හොඳට අපි තේරුම් ගන්න ඕන. තේරුම් අරගෙන මේ ජීවිතේ ගත කරනකොට මේ ජීවිතේ ඇත්ත සිහි කර කර නිතර වාසය කරන්න අපි දක්ෂ වෙන්න ඕන පින්වතුනි, මේ කාමයන් තුළ නෙවෙයි අපිට හැබෑම සැප තියෙන්නෙ. මේ සත්‍යවාදී වූ බුදුරජාණන් වහන්සේ දේශනා කරපු ධර්මය තුළයි. ඒ නිසා මේ කම්සැප පරිහරණය කරන අස්සොම ධර්ම අමෘතය ජීවිතයට ගලපගන්න ඕන කියලා නිතර හිතන්න, හොඳට බණ අහන්න, ධර්මය කියවන්න, ඒවා උනන්දුවක් ඇති කරගන්න ඕන, මොකද මේ ලැබෙන අවස්ථාව ජීවිතේකට සුළුපටු අවස්ථාවක් නෙවෙයි. දැන් අර අම්මා පාරට බැහැලා යනකොට ඒ කාලෙ ලෝකෙ බුදුගුණ තිබ්බෙ නැත්නම්. මේ භික්ෂුණිය උත්තමාවි පාරට බැහැලා එනකොට මහා ගින්නක් හදවතේ තියාගෙන, ඒ කාලෙ බුදුසසුන නොතිබ්බා නම්, ඇයට මේ සැනසිල්ල කවුද දෙන්නෙ. අන්න ඒ නිසා. මේ ජීවිතේ ඇතුලේ මිනිස්සුන්ට එක එක ඒවා මුණගැහෙනවා. මේ ලෝකෙ උපදින මිනිස්සුන්ට එක එක ඒවා මුණගැහෙනවා. එක එක අය මුණගැහෙනවා. එක එක අයගේ කතා අහන්න ලැබෙනවා. හැබැයි පින්වතුනි ඉතාම අතලොස්සකට බුදුරජාණන් වහන්සේගේ ධර්මය කියන කල්‍යාණමිත්‍රයෙක් මුණගැහෙන්නෙ. ඉතාම අතලොස්සකට බුදු බණ අහන්න ලැබෙන්නෙ. අන්න ඒ නිසා. එතකොට කාමයන්ගේ ස්වභාවය හොඳින්ම දැනගත්ත ඈ රජගහනුවරදි මහණ වුනා. ඈ කියනවා පුබ්බේ නිවාසං ජානාමි දිබ්බචක්ඛුං විසූදිතං චේතො පරියඤ්ච ඤාණංච සෝත ධාතු විසූතිතා - මං දැන් පුබ්බේනිවාස ඤාණයත් ලබාගත්තා. දිවැස් නුවණත් මං පිරිසිදු කරගත්තා. අනුන්ගේ සිත් දැනීමේ නුවණත් මං ලබාගත්තා. දිව්‍ය කණත් මං පිරිසිදු කරගත්තා. ඉද්ධි මෙ සච්චි කතා පත්තෝමේ ආසවක්ඛයො චලභිඤ්ඤා සච්චිකතා කතං බුද්ධස්ස සාසනං - මං ඍද්ධි බලත් ලබාගත්තා. අර්හත්වයට පත්වුනා. මං මේ අභිඥා හයම ලබාගත්තා. බුදුසසුන සම්පූර්ණ කරගත්තා. ඒ විදියටයි ඒ අර්හත් උත්තමාවිය තමන් වහන්සේගේ සිදුවීම, ගාථා විදියට වදාළේ. අපිට ඒ ගාථා අහන්න ලැබෙන්නෙ උප්පලවණ්ණා රහත් තෙරණියගේ ගාථා තුළ. ඉතින් මේ අර්හත් උත්තමාවියගේ චරිතාපදානය තුළින් අපිට හොඳටම තේරුම් ගන්න පුලුවන් දෙයක් තමයි, මේ සංසාර ගමනේ යම්තාක් විඳවිලි ඇත්ද, යම්තාක් සන්තාප ඇත්ද, යම්තාක් අනපේක්ෂිත දුක්ගිනි ඇත්ද, මේ හැම එකක්ම නිවන්න පුලුවන් එකම එක දෙය ධර්මය. මේ හැම එකකින්ම හිත සංසිඳවාගන්න පුලුවන් එකම එක දේ ධර්මය. වෙන කිසිම දෙයක් නෑ. ඒ නිසා ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමකගේ ධර්මය

මුණගැහිච්චි මේ ජීවිතේ අපිත් අපේ ජීවිත ධර්ම අමෘතයෙන් සැපවත් කරගන්නවා කියන අධිෂ්ටානය ඇති කරගන්න. අපිටත් අපේ රහතන් වහන්සේලා, රහත් තෙරණිවරු සැනසුනු නිවනේ සැනසෙන්න ලැබේවා, සාදු සාදු සාදු!!!

රැස් කල සියලු පින් සියලු දෙවියෝ සතුටින් අනුමෝදන් වෙත්වා. සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරු, සෙන්පති දෙවිවරු, අපගේ ඉෂ්ටකාමී, හිතකාමී සියලු දෙවවිරු ලංකාභූමිය සුරකින ශ්‍රීමත් සුමන සමන් දෙව්රජ ප්‍රධාන සියලු දෙවිවරු පින් අනුමෝදන්ව දෙවියෝ දිව්‍ය සැපයෙන් වැඩෙත්වා. ඒ දෙවියෝ අප හැමදෙනාවම ආරක්ෂා කරත්වා. දෙවියෝ ද සසර දුකින් අතමිදෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අප හැමදෙනාගේ කල්‍යාණමිත්‍ර ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්ව නිරෝගීව දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා, මේ ගෞතම ශාසනය තුළම උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරගනිත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අද ධර්මදානය සිදු කරන සමන් නිවස, දොඩම්ගහදූරුව, මඩුකොටන්අරාව, බඩල්කුඹුර කියන ලිපිනයේ පදිංචි හැත්තෑවන ජන්ම දිනය සමරන පින්වත් එච්.එම්. චන්ද්‍රපාල මහත්මාට මේ සියලුම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙලා මේ පිනේ ආශිර්වාදය, රත්නත්‍රයේ ආශිර්වාදය, සියලු දෙව් දේවතාවුන් වහන්සේලාගේ ආශිර්වාදය සැලසේවා. නිදුක් නිරෝගී සුව සැලසේවා. දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. තවදුරටත් ජීවිතේට සුවසේ ධර්මාදානාදී වශයෙනුත් සිත කය වචනයෙන් පින්රැස් කරගන්න අවකාශ සැලසෙත්වා. දහම් මග දියුණු කරගන්න අවකාශ සැලසෙත්වා, ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. එතුමාගේ නමින් මියපරලොව යන්නට යෙදුනු පින්වත් එච්.එම්. අප්පුහාමි පියාණන්ට, ආර්.එම්. හීන්මැණිකා මැණියන්ට, එච්.එම්. මැණිකේ හේරත්, එච්.එම්. පුණ්‍යවර්ධන මල්ලී, ආර්.එම්. කරුණාරත්න මස්සිනා, ඒ.එම්. සමරපාල මස්සිනා, එච්.එම්. අභයසේන අයියා යන නමින් මියගියාවූ සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන් වෙත්වා. ඥාතීන්ගේ පරලොව ජීවිත සැපයෙන් සැපයට පත්වෙත්වා. ඒ අපගේ ඥාතීන් සියලු දෙනාත් මේ දුක්ඛිත සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදන් කරන්න. ධර්ම දානය සිදු කරන පින්වත් එච්.එම්. චන්ද්‍රපාල මහත්මාටත්, ඒ

මහත්මියටත්, පවුලේ දූදරු පිරිසටත් මේ සියලු පින් අනුමෝදන් වෙලා ඒ හැමදෙනාට මේ උදාර ධර්මදාන පින, මේ අමෘත දානය නිදුක් නිරෝග සුව පිණිස හේතුවේවා. දීර්ඝායුෂ සම්පත් පිණිස හේතුවේවා. නිරතුරුව ජීවිතයට උතුම් කලයාණමිත්‍ර සත්පුරුෂයන්ගේ ආශ්‍රයම ලැබෙන්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාට, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සෑම සියලු දෙනාට ඒ වගේම සුපින්වත් ඔබ හැමදෙනාට මේ ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබෙන්වා, ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=cpFKp7LqUGY

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු මේ උතුම් ධර්ම දේශනා මාලාවේ අද දවසේ අපි අහන බණ පදයේ මේ බුද්ධ ශාසනයේ භික්ෂුණීන්ට මිනුම් දණ්ඩක් වුනු භික්ෂුණියක් ගැන. බුදුරජාණන් වහන්සේ දේශනා කලා බුද්ධ ශාසනය තුළ යම් දුවක් මහණවෙනකොට, භික්ෂුණී සංඝයා අතරට එනකොට ඇට මිනුම් දණ්ඩ කරගන්න කිව්වා, ඛේමා අර්හත් උත්තමාවිය, උප්පලවණ්ණා අර්හත් උත්තමාවිය. අපි ඛේමා රහත් උත්තමාවිය ගැන ඉගෙනගත්තා. අද ධර්මය උප්පලවණ්ණා රහත් තෙරණී. මේ බුද්ධ ශාසනයේ ඍද්ධි බලයෙන් අග්‍රපාප්ත, භික්ෂුණීන් අතරේ ඍද්ධිබලයෙන් අග්‍ර වූ භික්ෂුණිය. බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ භික්ෂුණී සංඝයා අතරේ ද්විතීය අග්‍රශ්‍රාවිකාව, උප්පලවණ්ණා රහත් තෙරණිය මහා තේජානුභාවයක්

තිබුනු කෙනෙක්. ඒ උත්තමාවියගේ චරිතාපදානය අද අපිට ශ්‍රවණය කරන්න ලැබෙනවා, ධර්ම දේශනාවට දායකත්ව දරන්නෙ නො.1053, දෙවන පියවර අනුරාධපුර යන ලිපිනයේ පදිංචි හැත්තෑ තුන්වෙනි ජන්ම දිනය යෙදුනු පින්වත් ඩී.එම්. බණ්ඩාර ඉලංගසිංහ, ආදරණීය පියාණන්ට නිදුක් නිරෝග සුව සැලසේවා, දීර්ඝායුෂ ලැබේවා කියන අදහසින් සෙත් ප්‍රාර්ථනා කිරීම පිණිස ආදරණීය පුතණුවන් වන ලොෂාන් ඉලංගසිංහ මහත්මා සහ ඒ මැතිනිය විසිනුයි අද මේ ධර්ම දානමය පින සිද්ධ කරන්නෙ. පුදුමුත්තර බුද්ධ ශාසන කියලා කියන්නෙ පින්වතුනේ මීට කල්ප ලක්ෂයකට පෙර ලෝකයේ පහළ වුනු එකක්. ඒ කාලයේ තමයි ඇගේ චරිතාපදානයේ ආරම්භය විදියට අපේ බණ පොත් වල සඳහන් වෙන්නෙ. එ කාලෙ ඇය උපන්නා හංසවතියේ. බුදුරජාණන් වහන්සේගෙන් නිතර බණ අහන්න යනවා. ඒ බණ අසන්න ගිහින් හිටපු වෙලාවක ඇයට දැකගන්න ලැබුනා, පදුමුත්තර බුදුරජාණන් වහන්සේගේ බුද්ධ ශාසනයේ අග්‍රශ්‍රාවිකාවො දෙන්නා. එතනින් එක අග්‍රශ්‍රාවිකාවක් බුද්ධ ශාසනයේ ඍද්ධි බලයෙනුත් අග්‍රයි. ඇයව හඳුනාගත්තට පස්සෙ මේ කාන්තාවටත් හිතක් උපන්නා අනේ හටත් මතු අනාගතේ බුදුසසුනක, බුදුරජාණන් වහන්සේගේ ද්විතීය අග්‍රශ්‍රාවිකාව බවට පත්වෙන්න තියේනම්, බුද්ධ ශාසනයේ භික්ෂුණී සංඝයා අතරේ ඍද්ධි බලයෙන් අග්‍ර භික්ෂුණිය වෙන්නත් ඇත්නම්. ඒ බුදු සසුනේම නිවන් සුවයේ සැනසෙන්න ඇත්නම්. අන්න එහෙම හිතුනා. ඒ සිතුවිල්ලෙන් ඈ පින් පුරන්න පටන් ගත්තා. ඉතින් මේ පින් පුරාගෙන ආපු ගමන ගත්තොත් පින්වතුනේ හරිම ආශ්චර්‍යජනක සිදුවීම් ගණනාවකින් යුක්තයි. පසේ බුදුවරුන්ගේ යුගවල් වල බොහෝ ඉපදිලා තියෙනවා, ඒ උපන් අවස්ථාවල හරිම අසිරිමත්, ඇගේ ජීවිතේ පින පිරිච්ච විදිය. කොහොම හරි කාශ්‍යප බුදුරජානන් වහන්සේගේ ශාසනයේ මේ මහා භද්‍ර කල්පයේම ඈ උපන්නා සමරගුප්තා නමින්. ඒ ජීවිතෙත් ගොඩාක් පින් කරගත්තා. ඔහොම පින් කරගෙන ආපු ගමනේ මේ මහා භද්‍ර කල්පයේම එක ජීවිතයක පසේ බුදුවරුන්ගේ යුගයේ පසේ බුදුරජාණන් වහන්සේලාට නිල් මහනෙල් මල් පිදුවා. ඒ නිල් මහනෙල් මල් පූජාව සිද්ද කරලා ඈ පුණ්‍ය ප්‍රාර්ථනාවක් කලා. මට උපනුපන් ආත්මයේ මේ නිල්මහනෙල් මලේ යම් සොඳුරු පැහැයක් ඇත්ද ඒ සොඳුරු පැහැයම මට ලැබේවා. නිල්මහනෙල් මලක සුන්දරත්වය මට ලැබේවා කියලා පාර්ථනා කලා. ඉතින් ඒ නිසා ඒ පුණ්‍ය ප්‍රාර්ථනාවත් එක්ක එකතු වෙලා තමයි මේ ජීවිතේ ඇය උපදිනකොට ඇගේ ශරීර වර්ණය, නිල්මහනෙල් මල් පාටයි. හරියට ඇනට ලස්සන නිල්මහනෙල්

මලක් දැක්කාම හිත ඇදී යන්නේ යම් සේද, ඒ වගේ ඇව දැක්ක ගමන් හිත ඇදී යනවා. ඒ නිල්මහනෙල් මලේ පැහැය කියලා කියන්නෙ පින්වතුනේ හරීම සුන්දර ශරීර වර්ණයක්. මනමෝහනීය ශරීර වර්ණයක්. දැන් සාරිපුත්ත මහරහතන් වහන්සේ ගැන කියනකොට ඊළඟට ඛේමා අර්හත් උත්තමාවිය ගැන කියනකොට, අපේ ආනන්ද මහතෙරුන් වහන්සේ, මහාකච්චායන මහතෙරුන් වහන්සේ, යශෝධරා අර්හත් උත්තමාවිය, මේ හැමෝම ගත්තොත් රත්තරන් පාටයි ඒ ශරීර වර්ණය. සාරිපුත්ත මහරහතන් වහන්සේ ගැන කියනකොට ඒකට කියනවා ඇහැල මලේ පාට කියලා, කහපාට. හරිම ලස්සන පැහැයක් තිබ්බා. එතකොට ඒ ලස්සන පැහැය ලැබුනේ පිනකටනේ. පුණ්‍ය තේජසක් විදියට තමයි ඒ ලස්සන පැහැය ලැබෙන්නෙ. උප්පලවණ්ණාවට තිබුනේ නිල්මහනෙල් මලේ පැහැයට සමාන ඉතාම සොඳුරු පැහැයක්. හරීම ලස්සනයි, ඒ නිසාම තමයි ඇයට නම යෙදුනේ උප්පලවණ්ණා. නිල්මහනෙල් මලේ පැහැ ඇත්තී. ඒක තමයි ඒකෙ සරල සිංහල තේරුම. ඉතින් මේ උප්පලවණ්ණාව තරුණ වයසට එනකොට පුදුම මනස්කාන්ත රූපකායක්. ඈ සම්බන්ධයෙන් හැමතැනම පැතිරිලා ගියා මෙහෙම හරිම ලස්සන කෙනෙක් ඉන්නවාලු, ඇයව යම් පුරුෂයෙක් දැක්කොත් එහෙම ඒ පුරුෂයා වසඟ වෙනවාලු. ඊළඟට ඇයට හරි පුණ්‍ය තේජසක් තියෙනවාලු, ඇය යන යන තැන ශ්‍රීය පැතිරෙනවාලු. මෙහෙම ඉතින් ඈ සම්බන්ධයෙන් ගොඩාක් පුණ්‍ය වාසනා මහිමය ගැන කතාවක් ගියා. එතකොට රජවරු සිටුවරු මහා ධනවත්හු කැමැති වුනා තම තමන්ගේ පවුල් වලට ඇව සම්බන්ධ කරගන්න. එක දිගට විවාහ යෝජනා එන්න පටන් ගත්තා. අවුරුදු 16 වගේ තරුණ වයසේ ඉන්නකොට ඇව කැන්දාගෙන යන්න රජවරු, සිටුවරු, මහා ධනවතුන් එක දිගට වැල නොකැඩී එන්න පටන් ගත්තා. ඉතින් ඔය අතරේ තමයි, ඔය ඔක්කොම තියෙද්දී තමයි උප්පලවණ්ණාව භික්ෂුණීන් ඇසුරු කරන්නෙ. ඇයට ලස්සන විතරක් නෙවෙයි තිබුනේ, ඇයට තිබුනා ප්‍රඥාවත්. බණ පද අහනකොට හිත පැහැදුනා. මව්පියන්ගේ අවසරය මැද ඇය පැවිදි වෙන්න තීරණය කලා. අම්මාගෙන් තාත්තාගෙන් අවසර පතනකොට ඒ තාත්තත් කල්පනා කලා දැන් මගේ දුවව එක්කෙනෙකුට දීලා බේරෙන්න බෑ, ප්‍රශ්න හටගන්නවා. ඒ නිසා මගේ දුවත් පැවිද්දට නම් කැමති මං අකමැති වෙන එකේ කිසි තේරුමක් නෑ කියලා පැවිද්දට අවසර දුන්නා. ඇය ඉතා සුවසේම බුද්ධ ශාසනේ පැවිදි වුනා. පැවිදි වෙලා ඉතාම කෙටි කාලයයි පින්වතුනේ ඇය සසරේ පින් කරපු කෙනෙක්, වහා ධර්මය අවබෝධ කලා. ඒ ධර්මාවබෝධය ලැබුවාට පස්සෙ උප්පලවණ්ණා

රහත් තෙරණිය ඍද්ධි බලයෙන් හරීම අසිරිමත්, ඒ කියන්නෙ ආශ්චර්යජනක ඍද්ධිමය හැකියාවක් ඒ උත්තමාවියට තිබුනා හරියට භික්ෂු සංඝයා අතරේ මුගලන් මහරහතන් වහන්සේට වගේ. ඒ වගේ ඍද්ධියක් තිබුනා. චිත්ත වශීප්‍රාප්ත කියලා අපි ඒකට කියන්නෙ. සිත තමන්ගේ වසඟයට ගත්ත, ඍද්ධිය ඕන විදියකට හසුරුවන්න පුලුවන් හැකියාව මේ උප්පලවණ්ණා තෙරණියට, උප්පලවණ්ණා අර්හත් උත්තමාවියට තිබුනා, ඉතින් එක අවස්ථාවක මෙන්න මෙහෙම සිද්ධියකුත් වෙලා තියෙනවා. ඉධ්‍යා අභිනිම්මිත්වා චතුරස්ස රථං අහං බුද්ධස්ස පාදයේ වන්දිත්වා ලෝකනාතස්ස තාදිනො - ඇය ඍද්ධි බලයෙන් අශ්ව කරත්ත හතරක් මවාගත්තා. ලෝකනාථ වූ අකම්පිත සිත් ඇති බුදුසමිඳුන් බැහැදකින්න ගියා. ඒ සිරිපා කමල් යුග මං වැඳපුදාගත්තා. ඉතින් එහෙම ඇයගේ ආශ්චර්යජනක ඍද්ධියක් තිබුනු නිසා බුදුරජාණන් වහන්සේ සිව්වනක් පිරිස මැද අගතනතුරු ප්‍රදානය කලා, ඒතදග්ගං භික්ඛවෙ මමසාවිකානං භික්ඛුනී නං - මහණෙනි මාගේ ශ්‍රාවිකා වූ භික්ෂුණී සංඝයා අතරේ ඍද්ධි බලයෙන් අග්‍ර වෙන්නෙ මේ උප්පලවණ්ණාවයි කියලා බුදුරජාණන් වහන්සේ අගතනතුරුත් ප්‍රදානය කලා. ඉතින් මේ බුද්ධ ශාසනය තුළ හිටපු මේ ආනුභාව සම්පන්න මහා තේජස් ඇති අර්හත් උත්තමාවියගේ අර්හත්වයට පත්වුනාට පස්සෙ ජීවිතයේ සිදුවීම් කිහිපයක්ම බැඳිලා තියෙනවා. ඒ වගේ එකක් තමයි පින්වතුනේ නන්ද මානවකගේ සිදුවීම. මේ නන්ද කියලා කියන්නෙ උප්පලවණ්ණාව ගිහි කාලයේ සිටු නිවසේ වාසය කරනකොට ඇයට සමීප ඥාති වෙච්චි කෙනෙක්. ඇත්තෙන්ම ඇයව විවාහ කරගන්න කැමැත්තෙන් හිටපු කෙනෙක්. ඒ විවාහ කරගන්න කැමැත්තෙන් ඈ තරුණ වයසේදී හැඩකාර වෙනවා බල බලා ඉද්දින් ඔහු කිසිසේත් අපේක්ෂා නොකරපු දෙයක් සිද්ධ වුනා. ඈ බුද්ධ ශාසනේ පැවිදි වුනා. ඒ පැවිදි වුනාට පස්සේ මේ නන්දට මේක දරාගන්න බැරිව ගියා. මොකද නන්දට තිබුනේ ඇගේ රූපය පිළිබඳව කැමැත්තක්. රූපය පිළිබඳව රාගයක්. ඒ රූපයෙන් සතුටු වෙන්න ආසාවක්. පැවිදි වුනාට පස්සේත් මේ භික්ෂුණිය සම්බන්ධයෙන් ඔහු විපරම් කලා. කොහෙදෑ ඉන්නෙ, ඈ කොයි කොයි සෙනසුන්ද ඇසුරු කරන්නෙ, මේවා හෙව්වා. එතකොට එක කාලෙක උප්පලවණ්ණා රහත් තෙරණින් වහන්සේ කැලේ ඇතුලේ තනිපංගලමේ කුටියක වැඩ හිටියා. එතකොට නන්ද තීරණය කලා කාන්තාවක් තනිපංගලමේ ඉන්නවා කියලා කියන්නෙ ඒ කාන්තාවට විපතක් කරදරයක් කරන්න, ඒ කාන්තාව තමන්ගේ වසඟයට පත්කරගන්න ඒක පහසුම වෙලාව. ඒ නිසා මේ කුටියේ ඉන්න කාලෙ මම ඇයව මේ වරදට

කැමැති කරවාගන්න ඕන. ඇයව පොළඹවාගන්න අදහසින් තමයි නන්ද ඒ කුටියට ගියෙ. ඒ කුටිය සමීපයට වෙන්න හරියට ගොදුරකට කුරුමානම් අල්ලන බළලෙක් වගේ බලාගෙන හිටියා කාලයක්. කාලයක් බලාගෙන ඉඳලා ඉඳලා දවසක් මේ උප්පලවණ්ණා අර්හත් උත්තමාවී පාත්‍රයක් අරගෙන පිණ්ඩපාතෙ වැඩම කරනවා ඔහු දැක්කා. එදා උප්පලවණ්ණා රහත් තෙරණින් වහන්සේට පිණ්ඩපාතෙ වඩින්න සිද්ධ වුනා පින්වතුනි ටිකක් දුරට. ගෙයක් ගෙයක් පාසානෙ පිඬුසිඟා වඩින්නෙ. එතකොට හැම නිවසකින්ම පිණ්ඩපාතෙ දානෙ නොලැබුනොත් එහෙම පිණ්ඩපාත දානෙ දෙන්න ඒ මිනිස්සු නිවෙස්වල හිටියේ නැත්නම් ටිකක් දුරට වඩින්න වෙනවා. එතකොට එදා ඒ උත්තමාවිය දුරට වැඩම කලා. දුරට වැඩම කරලා යළි කුටියට වැඩම කරද්දි, දැන් ඇඟට මහන්සියි. ඒ නිසා ඒ උත්තමාවිය දානෙ වළඳන්න පෙර දන් පාත්‍රය පැත්තකින් තියලා යහනේ පොඩ්ඩක් සැතපුනා, මේ කයේ වෙහෙස දුරු කරගන්න. ඔය වෙලාවේ අර නන්ද කියන පුරුෂයා, මේ නන්ද කියන තරුණයා ඒ උත්තමාවිය සැතපෙන යහනේ, ඇතුලට රිංගලා හිටියේ. ඒ උත්තමාවිය යහනේ බරවුනා විතරයි මේ පුද්ගලයා එකපාර ඒ උත්තමාවියගේ ඇඟඋඩට කඩාපැන්නා. කඩාපැනලා සුළු මොහොතක් ඇතුලත ඒ තමන්ගේ පාපී ආසාව, ලාමක ආසාව ඉෂ්ටකරගත්තා. ඒ වෙලාවේ අර්හත් උත්තමාවියට එකම එක වචනයයි කියන්න පුලුවන් වුනේ. ඒ උත්තමාවිය ඒ වෙනකොට දුර්වලයි, දුර ගමන් ගිහිල්ලා ඇවිත් හිටපු නිසා. ඒ උත්තමාවී කිව්වා පාපී තැනැත්ත වැනසෙන්න එපා, වැනසෙන්න එපා කියලා. දැන් බලන්න පින්වතුනි මේ රාගයක තියෙන භයානක කම. රාගය කියන එක හිතක උපන්නාට පස්සෙ, බුද්ධ දේශනාවෙ තියෙනවා රත්තො අත්ථං න ජානාති - රාගයෙන් යට වූ තැනැත්තාට අර්ථය නොතේරෙන්නේය. රත්තො ධම්මං න පස්සති - ඔහුට ධර්මය නොවැටහෙන්නේය. අන්ධං තමං තදාහෝති - ඔහුට අන්ධයා යැයි කීවාට වරදක් නැත. යං රාගො සහතේ නයං - රාගය විසින් මේ සත්වයාව නසන්නේය. ඉතින් නන්දට මේ පැවිද්දට පත්වෙලා ඉන්න, කේශ කලාපය ඉවත් කරපු නොයෙක් සැරසෙන වස්ත්‍ර ඉවත් කරපු පාත්‍රයක් අරගෙන පිණ්ඩපාතෙ යන මේ භික්ෂුණිය ගැන භික්ෂුණියක් කියලා දැකගන්න බැරිව ගියානෙ. ලෝකයා විසින් වන්දනාමාන කරන උත්තමාවියට තමන්ටත් වඳින්න ඕන පුදන්න ඕන කියලා සිහිය පිහිටුවාගන්න බැරිව ගියානෙ. ඇගේ රූපයෙන් තමන් සතුටු වෙන්නයි හිතුවේ. ඉතින් පාපී ආසාව ඉෂ්ට කරගත්තා. ඉෂ්ට කරගෙන ඒ අර්හත් උත්තමාවියගේ කුටියෙන් එළියට ඔහු බහින්නේ යම් මොහොතකද,

කුටියෙන් එළියට එක පියවරක් තියනකොටම මහපොළොව දෙබෑ වුනා. මහපොළොව දෙබෑ වෙලා එතනින් ගිනිදැල් මතුවුනා. එහෙම්මම ඇදගෙන ගියානෙ. බලන්න, ඒක පින්වතුනේ ඒ අර්හත් උත්තමාවියගේ සාපයක් නොවෙයිනෙ. ගුණවත් කෙනෙක් කෙරෙහි වරදවා පිළිපැදීම. ගුණවතුන් කෙරෙහි කෙනෙක් වරදවා පිළිපදිනවා නම් ඒකෙ විපාකය කටුකයි. බුදුරජුන් කෙරෙහි වරදවා පිළිපදිනවා නම් ඒකෙ විපාකය කටුකයි. සඟරුවන කෙරෙහි වරදවා පිළිපදිනවා නම් ඒකෙ විපාකය කටුකයි. මව්පියෝ කෙරෙහි වරදවා පිළිපදිනවා නම් විපාකය කටුකයි. උපකාර කරපු කෙනෙක් කෙරෙහි වරදවා පිළිපදිනවා නම් විපාකය කටුකයි. ඒ කටුක විපාකයට ඒ නන්දට මුහුණ දෙන්න සිද්ධ වුනා. ඉතින් ඔය සිදුවීම භාග්‍යවතුන් වහන්සේ කරාම පැමිණෙනවා. බුදුරජාණන් වහන්සේ කරා ඔය සිදුවීම පැමිණුනාම භාග්‍යවතුන් වහන්සේ නන්ද මානවක අරඹයා මෙන්න මෙහෙම ගාථාවකුත් වදාළා. මදුරා මඤ්ඤති බාලො යාව පාපං නපච්චති යදාච පච්චති පාපං අතබාලො දුක්ඛං නිගච්ඡති - පව්කාරයාට තමන් කරපු පව් විපාක නොදෙන තාක්ම ඒ පව් කිරීම මිහිරිම මී පැණි වගේ කියලයි හිතෙන්නෙ. නමුත් යම් දවසක ඒ පව් පලදෙන්න පටන් ගත්තහම තමයි ඒ අඥාණ පුද්ගලයා දුකට වැටෙන්නෙ. පව් කරන තැනැත්තා පව් කරනකල් හිතනවා කියනවා මේක හරි ෂෝක් එකක්නෙ කියලා. හැබැයි යම් කලෙක පාපය විපාක දෙන්න පටන් ගන්නවාද අන්න එදාට තමයි ඔහුට ඉහිළුම් එන්නැත්තෙ. දැන් නන්දට අර සුළු මොහොතේ තමන්ගේ හිත පාලනය කරගන්න බැරීම නිසා කොච්චර කටුක කර්කශ විපාකයක් කරා ජීවිතේ යන්න සිද්ධ වුනාද. දැන් බලන්න පින්වතුනේ පුලුවන් වුනා නම් සිහිය උපදවාගෙන වාසය කරන්න, උප්පලවණ්ණා රහත් තෙරණිය කියලා කියන්නෙ දක්ෂ විදියට දහම් දෙසූ කෙනෙක්. ඉතින් ඒ උත්තමාවියගේම බණ පදයක් අහගෙන, සමහර වෙලාවට ධර්මාවබෝධ කරන්නත් අවකාශ තිබුනා. ඒ උත්තමාවියගේ ඥාති නිසා දන් පැන් පූජා කරලා සෙනසුනක් පූජා කරලා පින් කරගන්න තිබුනා, ඔක්කොම වනසගත්තා එක මොහොතකින්. පව්කාරයා පව් කරද්දි හිතන්නෙ මේක මිහිරි දෙයක් කියලා. හැබැයි ඒකෙ විපාකෙ කරකැවිලා එනකොට ඔහු ඒකෙන් කටුක කර්කශ විපාක විඳවනවා කියලා බුදුරජාණන් වහන්සේ නන්ද මානවක අරබයා ඔය ගාථාව වදාළේ. හැබැයි ඔය සිදුවීමත් එක්ක අර්හත් උත්තමාවිය ගැන සැක කිරීමක් හටගත්තා. ඔය සිදුවීම වුනාට පස්සෙ - හැමෝම දන්නෙ නැනෙ මේ වැඩ ඉන්නෙ අර්හත් උත්තමාවියක් කියලා, ඇය සම්බන්ධයෙන් සැක කිරීමක් හටගත්තා, දැන් මේ අර්හත් තෙරණිය පාරාජිකා

වුනාද, උප්පලවණ්ණාව පාරාජිකා වුනාද, උප්පලවණ්ණා මේ අසද්ධර්මයේ හැසිරුණා. ඒ අසද්ධර්මය ඇයට දැනුනේ නැද්ද, ඈ ඒක වින්දේ නැද්ද, ඒ වගේ නොයෙක් නොයෙක් ප්‍රශ්න හටගත්තා. අන්න ඒ වෙලාවේ බුදුරජාණන් වහන්සේ උප්පලවණ්ණා නම් වූ මේ රහත් තෙරණියගේ උදාරත්වය ඉස්මතු වෙන විදියට ධම්මපදයේ ගාථාවක් වදාළා. වාරිපොක්ඛර පත්තේව ආරග්ගේරේව සාසකො යෝනලිප්පති කාමේසු තමහං බ්‍රෑමි බ්‍රාහ්මණං - නෙළුම් කොළයක නොරැඳ වතුර බිංදුවක් බිම වැටෙනවා වගේ ඉදිකටු තුඬේ කෙළවර නොපිහිටන අබ ඇටයක් වගේ යම් කෙනෙක් කාමයන් තුළ පිහිටන්නේ නැත්නම් අන්න එබඳු තැනැත්තාටයි මම බ්‍රාහ්මණයා කියලා කියන්නෙ. බ්‍රාහ්මණ කියලා කියන්නෙ මොකක්ද මෙහි, උතුම් ජීවිතය ඇති තැනැත්තා. බුදුරජාණන් වහන්සේ බ්‍රාහ්මණ කියලා පාවිච්චි කලේ උතුම් ජීවිතයක්, පිරිසිදු ජීවිතයක්, උදාර ජීවිතයක් ඇති බවට. එතකොට භාග්‍යවතුන් වහන්සේ උදාරම ජීවිතේ කියලා කිව්වෙ මොකක්ද? කාමයන්ගේ නොඇලෙන සිත. කෙලෙස් වල නොඇලෙන සිත. බුදුරජාණන් වහන්සේ වදාළා මහණෙනි මේ උප්පලවණ්ණාව කියලා කියන්නෙ සියලු කෙලෙස් නසා නිදහස් වෙච්චි කෙනෙක්. ඒ නිසා ඒ සිදුවීම සිදුවීමක්ම විතරයි. උප්පලවණ්ණාත් එක්ක කිසිම සම්බන්ධයක් නෑ කියලා කිව්වා. ඒ තමයි කෙලෙස් නැසූ රහතුන්ගේ සිතක අසිරිය. ක්ලේශ සටහන් මොකුත් නැනෙ පින්වතුනි. ඒ අර්හත් උත්තමාවියත් එක්ක හැප්පෙන්න ආපු කෙනා ගින්දරත් එක්ක හැප්පෙන්න ආපු පළගැටියෙක් වගේ දැවිලා විනාශ වෙලා ගියා. ඔහුගේ ජීවිතයම වනසාගත්තා, ඔහුම නසාගත්තා, ඒ අර්හත් උත්තමාවියට කිසිම හානියක් සිද්ධ වුන් නෑ. ඉතින් ඒ උප්පලවණ්ණා රහත් තෙරණිය එක කාලෙක වැඩ හිටියා, අන්ධ වනයේ. අන්ධ වනයේ ඇතුලට වෙන්න ඈ වැඩ ඉන්නවා. ඒ අන්ධ වනයේ වැඩ ඉද්දි වසවර්ති මාරයා දකිනවා උප්පලවණ්ණා තෙරණිය ඉන්නෙ අන්ධ වනයේ. තනිපංගලමේ ඉන්නෙ. මේ වගේ වෙලාවක් තමයි කාන්තාවක්ව බිය වද්දන්න හොඳම වෙලාව. එහෙම හිතලා මාරයා පුරුෂයෙකුගේ වෙස් ගත්තා. වෙස් අරගෙන එතෙන්ට එනවා, ඇවිල්ලා උප්පලවණ්ණා තෙරණියට කියනවා සුපුප්ඵිතග්ගං උපගම්ම පාදපං - ඔයා ඔය තනියම ඉන්නෙ. බලන්න අතු අග පටන් පිපී ගිය මල් තියෙන සල් ගහ සෙවණ, හරී ලස්සනයි. ළඟපාතකට වෙන්න වෙන කවුරුත් ඇත්තෙත් නෑ. ඒයි මෝඩ කාන්තාව සල්ලාලයො ගැන ඔයාට බයක් නැද්ද කියලා ඇහුවා. තනිපංගලමේ කාත් කවුරුවත් නැතිව මේ වගේ ලස්සන තැනක නිදහස් තැනක ඉන්නකොට

සල්ලාලයො ඇවිල්ලා කරදර කරාවි කියලා ඔබට බයක් නැතිද? උප්පලවණ්ණා රහත් තෙරණින් වහන්සේ සිංහනාද කරනවා. ඒයි මාරය ඔය සල්ලාල ජනයා සියදහස් ගණනක් ආවත් මගේ ඇඟේ එක ලොම් ගහක්වත් බයෙන් සැලෙන්නේ නෑ, කම්පා වෙන්නෙ නෑ. මාරය මං හුදෙකලා වී සිටීම ගැන උඹට මොකටද, මං හුදෙකලාවේ ඉන්න එක ගැන ඔහේට ඇති වැඩේ මොකක්ද. මාරය මට උඹ ඉදිරියේ අතුරුදහන් වෙන්න පුලුවන්. ඔබටත් හොරෙන් ඔබේ කුසට රිංගන්න පුලුවන්. ඇහිබැම දෙක අතර ඉන්න පුලුවන්. මං එහෙම ඉන්නකොට මාව දැකගන්න උඹට හැකියාවක් නෑ, උඹේ ඇහිබැම දෙක අතරට වෙලා මට ඉන්නට පුලුවන් කියනවා, එතකොට උඹට මාව දැකගන්න විදියක් නෑ, මේ ඍද්ධි බලයෙන් තම සිත වසඟයට ගත්තු උත්තමාවියනෙ. අපේ මහාමොග්ගල්ලාන මහරහතන් වහන්සේත් භේෂකලා වනයේදී මාරයාට තර්ජනය කලානෙ. ඍද්ධියෙන් වශීප්‍රාප්ත නිසා. ඒ වගේ උප්පලවණ්ණා රහත් තෙරණිය කියලා කියන්නේත් ඍද්ධි බලයේ වශීප්‍රාප්ත. ඒ නිසා මාරයාට තර්ජනය කලා, මාරය ඔහේ මේ මා ඉදිරියට පැමිණිලා ඔහොම කතාබහ කලාට මට ඕන නම් ඔහේට ගියේ කොහේද කියලා හොයාගන්නවත් බැරි වෙන්න අතුරුදහන් වෙන්න පුලුවන්. ඔබටත් හොරෙන් ඔබේ කුසට රිංගන්න පුලුවන්. ඇහිබැම දෙක අතර ඉන්න පුලුවන්. එහෙම මොකක්ද හේතුව මොකක්ද එහෙම කරන්න පුලුවන් හේතුව, චිත්තංහි වසීභූතාහං ඍද්ධිපාදා සුබාවිතා ච මේ අභිඤ්ඤා සච්චිකතා කතං බුද්ධස්ස සාසනං - මාරය මට තියෙන්නෙ දමනය කරපු හිතක්. මං ඍද්ධි පාද වඩපු කෙනෙක්, මං අභිඥා හයම සාක්ෂාත් කරලා ඉන්නෙ. මං බුදු සසුන සම්පූර්ණ කරගත්තා. මට තියන්නෙ දමනය කරපු හිතක් කියනවා. රහතන් වහන්සේ නමකගේ හිත රහත් තෙරණියකගේ හිත ගැන භාග්‍යවතුන් වහන්සේ දේශනා කලේ හරියට මනාකොට දක්ෂව දමනය කරගත්ත හීලෑවෙච්චි අශ්වයෝ වගේ කියනවා. හීළෑවෙච්චි අශ්වයා කරත්තෙ බැන්දට පස්සෙ ස්වාමියාට උවමනා කරන්නෙ අශ්වයාට නියෝග දීම පමණයි. නියෝගයට අනුව අශ්වයා වැඩ. අන්න ඒ වගේ තමයි රහතන් වහන්සෙලාගේ, රහත් තෙරණින් වහන්සේලාගේ සන්තානය. ඒ සන්තානය දමනය කරගෙන, සාමාන්‍ය මනුස්සයාගේ සන්තානයේ දමනයක් නෑ. සසරේ යන සත්වයාගේ සන්තානයේ දමනයක් නෑ. ඔහුට හතුරුක්ම කරන ඒවා ඔහුතුලමයි. මොනවද පින්වතුනි අප තුලම තියෙන අපිට හතුරුකම් කරන දේවල්. බුදුරජාණන් වහන්සේගෙන් දවසක් කොසොල් රජ්ජුරුවො අහන්නෙ. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, අපි රජවරු. අපිට ස්වාමීනී බාහිර

ආරක්ෂාව නම් ඕන තරම් තියෙනවා. අපි කන්න ගියත්, අපි නාන්න ගියත්, අපි කොතැනක ගියත් අපිව ආරක්ෂා කරන්න මහාසේනාවක් ඉන්නවා. ඒ මහාසේනාවෙන් අපි සතුරන්ගෙන් ආරක්ෂා වෙලා ඉන්නවා. හැබැයි ස්වාමීනී යම් සතුරෙක් හිටියොත් එහෙම අභ්‍යන්තරයේම, ඒ අභ්‍යන්තර සතුරාගෙන් බාහිර සීමා දාලා, බාහිර ආරක්ෂකයො දාලා බේරෙන්න පුලුවන්කමක් නෑ. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, තමා තුළම තමාට සතුරුකම් කරන අභ්‍යන්තර සතුරෝ ඉන්නවද, බුදුරජාණන් වහන්සේදේශනා කලා රජතුමනි, රාගය කියලා කියන්නෙ තමා තුළ පවතින තමන්ට සතුරුකම් කරන අභ්‍යන්තර සතුරාය. ද්වේෂය කියලා කියන්නෙ තමා තුළ සිටින, තමන්ටම හතුරුකම්කරන අභ්‍යන්තර සතුරාය. මෝහය කියලා කියන්නෙ තමා තුළ සිටින තමාටම හතුරුකම් කරන අභ්‍යන්තර සතුරාය. අයසාවමලං සමුට්ඨිතං තදුට්ඨාය තදේව කාදන්ති - යකඩයේ හටගන්නා මලකඩ විසින්මයි යකඩය මත පිහිටා යකඩය නසන්නේ. අන්න ඒ වගේ රාග, ද්වේෂ, මෝහ කියන මේ අකුසල මූල මේ සන්තානයේ ඇතුලේ හටගෙන මේ සත්වයාව වනසාදානවා කියලා බුදුරජාණන් වහන්සේ දේශනා කලේ. ඒ නිසා පින්වතුනි රාග, ද්වේෂ, මෝහ සහිතව යමෙක් ජීවිතය ගතකරනවාද ඒ ජීවිත ගත කරන හැම කෙනෙක්ම, එතකොට මේ ලෝකෙ දෙවියන්, බඹුන්, මරුන් සහිත සමස්ත ලෝක ප්‍රජාවම ඉන්නෙ දමනය නොවිච්චි හිතකින්. ඇයි එයාට හිත දමනය කරගෙන ඉන්න බෑ, හතුරුකම් කරන ඒවා අභ්‍යන්තරයේ තියෙනවා. ඒ අභ්‍යන්තර සතුරෝ විදියට හඳුන්වපු රාග, ද්වේෂ, මෝහ කියන භාග්‍යවතුන් වහන්සේ වදාළා, මේ රාග, ද්වේෂ, මෝහ වලින් හිතක් යටවුනාට පස්සෙ ඒ යටවුන හිත ඇති කෙනාට නේව අත්තත්තං ජානාති - මේවා මට යහපත පිණිස පවතිනවා කියලා අඳුනගන්න බැරිව යනවා. රාගයට හිත යටවුනත් අඳුරගන්න බැරිව යනවා. ද්වේෂයට හිත යටවුනත් අඳුරගන්න බැරිව යනවා, මෝහයට හිත යටවුනත් අඳුරගන්න බැරිව යනවා, මේවා තමයි මට යහපත පිණිස පවතින්නෙ කියලා. ඊළඟට පරාර්ථය. අන් අයගේ යහපතත් අඳුනගන්න බැරිව යනවා රාග, ද්වේෂ, මෝහ වලට හිත යට වුනාම. උභයත්තං - දෙපාර්ශ්වයේම යහපත අහිමි වෙනවා. ඊළඟට මේ තමයි සුචරිතය කියලා අඳුනගන්න බැරිව යනවා. මේ තමයි දුෂ්චරිතය කියලා අඳුනගන්න බැරිව යනවා. සුචරිතය බැහැර කරනවා, දුෂ්චරිතයේ යෙදෙනවා. රාග, ද්වේෂ, මෝහ නිසා. බලන්න මේ ලෝකයේ දුෂ්චරිත, ඊළඟට නීති විරෝධී වැඩ යම්තාක් තියෙනවාද, ඒවා අරගත්තහම පින්වතුනි ඒ හැමදේටම මුල් වෙලා තියෙන්නෙ ඔන්න ඔය අකුසල්. රාගය,

ද්වේෂය, මෝහය. අභ්‍යන්තර සතුරෝ, අභ්‍යන්තරයෙන්ම තමන්ට සතුරුකම් කර කර ඉන්නෙ. රාගය මුල් කරගෙන කෙනෙක් කටයුතු කරනවා නම් අභ්‍යන්තර සතුරෙක්, බාහිරින් සතුරෙක් කරනවාට වැඩි අනතුරක් ඒ අභ්‍යන්තර සතුරා විසින් කරනවා. ඒක හොඳට තේරෙනවා නන්දමානවකගේ සිද්ධිය. උප්පලවණ්ණා රහත් තෙරණිය ගැන රාග හිතක් උපදවගෙන ඒ අනුව කටයුතු කරලා ඔහු විනාශ මුඛයටම ගියා. අපි මේ බණ පද කියනකොටත් ඔහු නිරයේ පැහෙනවා. මේ බණ පද කියනකොටත් ඔහු නිරයේ පැහෙනවා. බුදු කෙනෙක් ඇස් දෙකෙන් දැකපු කෙනෙක්, භාග්‍යවතුන් වහන්සේගේ බණ පදයක් සමහරවිට ඒ කාලෙ අහන්න ලැබුනා වුනත් වෙන්න පුලුවන්. බුද්ධ ශාසනයක් පැවතිච්ච කාලෙ ඉපදිලත් හිටියා. මේ වෙනකොට දුක් සහිත නිරයේ ඉපදිලා. හේතුව රාගයට යටවීම. බාහිරින් සතුරෙකුට පුලුවන් අපිව නසන්න, අපේ ජීවිතයට හානි කරන්න. කරන්න පුලුවන් උපරිම හානිය අපිව විනාශ කරලා දාන එකනේ. නමුත් බාහිර සතුරෙකුට බෑ අපිව නිරයේ අරන් යන්න. බාහිර සතුරෙකුට බෑ අපිව ප්‍රේත ලෝකයේ තිරිසන් ලෝකයේ අරන් යන්න. අන්න ඒ නිසා ගොඩක්ම දරුණු අභ්‍යන්තර සතුරෝ. බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ රාග, ද්වේෂ, මෝහ කියලා කියන්නෙ මහණෙනි ඔය විදියට මනුස්සයාගේ යහපතත් අහිමි කරන සුචරිතයත් අහිමි කරන එකක්. ඒ නිසා මේ රාග, ද්වේෂ, මෝහ වලට කිව්වාට කමක් නෑ කියනවා අන්ධකරණ - මේ සත්වයාව අන්ධ කරන දේවල්. අඥාණකරණ - මේ සත්වයාව මෝඩයෙක් බවට පත් කරන දේවල්. පඤ්ඤානිරෝධික - මේ දේවල් වලින් තමයි සත්වයාගේ ප්‍රඥාව නිරුද්ධ කරලා දාන්නෙ. අචක්ඛුකරණ - මේ සත්වයාට ලෝකයේ යහපත දකින්න යම් ඇසක් තියෙනවා නම් ඒ ඇස රාග, ද්වේෂ, මෝහ කියන තුනෙන් නැති කරනවා. මේ සත්වයාට මේ ලෝකයේ සුචරිතය ගැන දකින්න යම් ඇහැක් තියෙනවා නම් ඒ ඇහැ රාග, ද්වේෂ, මෝහ කියන තුනෙන් ඉවත් කරලා දානවා. ඇහැ නැති කරනවා, අචක්ඛුකරණ. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා විඝාතපක්ඛික - රාගයෙන් තමයි දුකට ඇදලා දාන්නෙ. ද්වේෂයෙන් තමයි දුකට ඇදලා දාන්නෙ. මෝහයෙන් තමයි දුකට ඇදලා දාන්නෙ. ඉතින් ඔය අභ්‍යන්තර සතුරෝ තියාගෙන මොන දමනයක්ද? අභ්‍යන්තර සතුරන්ගෙන් නිදහස් වූ ජීවිත තමයි දමනය වුනු ජීවිතය. ඒ ජීවිතේ දමනය වෙලා ඇස නිසාත් අසංවර වෙන් නෑ. කණ නිසාත් අසංවර වෙන් නෑ, නාසය, දිව, කය, මනස නිසාත් අසංවර වෙන් නෑ. හරියට හොඳට දමනය වෙච්චි අශ්වයෝ හය දෙනෙක් වගේ. ඇස, කණ, නාසය, දිව, කය, මනස

රහතන් වහන්සේලා දමනය කරනවා. රහත් තෙරණිවරු දමනය කරනවා. සම්පූර්ණයෙන්ම දමනය වෙච්චි ඉඳුරන් කියනවා මා තුළ තියෙන්නෙ. මං ඍද්ධිපාද වඩපු කෙනෙක්. ඡන්ද, චිත්ත, විරිය, වීමංසා කියන සතර ඍද්ධිපාද ධර්ම වැඩුවා. අභිඥා හයම සාක්ෂාත් කලා. මං බුදුසසුන සම්පූර්ණ කරගත්තා. සත්තී සූලූපමා කාමා කන්දාසං අධිකුට්ඨනා යං ත්වං කාමරතිං බ්‍රෑසි අරති දානිසා මම - මාරය, කාමය කියලා කියන්නෙ විස පොවාපු ආයුධ වගේ දෙයක්. කාමය කියලා කියන්නෙ විස පොවලා තියෙන ආයුධ වගේ දෙයක්. විස පොවාපු ආයුධයක ස්වභාවය තමයි ඒ ආයුධයෙන් පහරක් කෑවොත් තුවාලෙකුත් වෙනවා, තුවාලෙ හොඳ කලත් සමහර වෙලාවට විස, විස ඇඟේ දුවනවා. අර තුවාලෙට යම් හොඳ කිරීමක්, ආයුධ ඉවත් කිරීමක්, අපි හිතමු විස පොවාපු ඊතලයකින් විද්දා. ඒක ඇනුනට පස්සෙ ඊතලය ගලවලා අයින් කලත් විස ඉවත් කරන්න ලේසි නෑ, ඒ විස ඇඟ දිගේ හැමතැනම දුවනවා. කාමය කියලා කියන්නෙ විස පොවාපු ආයුධ වගේ දෙයක්. කාමයට අහුවුනොත් එහෙම ඒ කාම බන්ධනයේ හරියට විසක් වගේ ඇඟ දිගේ දුවනවා. ගලවන්න ලේසි නෑ. ඉවත් කරන්න ලේසි නෑ. ඒකනෙ බුදුරජාණන් වහන්සේ දවසක් බුදුරජාණන් වහන්සේ ළඟට පිණ්ඩපාතෙ වැඩම කරපු භික්ෂූන් වහන්සේලා පිරිසක් ඇවිල්ලා මෙහෙම එකක් කිව්වා. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, අපි දැක්කා අද බිම්බිසාර මහරජ්ජුරුවන්ගේ හිර ගෙදර ඉන්න හිරකාරයො ටික. වෙන හිර ගෙදරකට මාරු කරලා යවනවා. ස්වාමීනී අපිට හිතෙන්නෙ දරුණු අපරාධකාරයොද කොහෙද. පුදුම බැදිල්ලක් බැඳලා තිබ්බානෙ. තදට දම්වැල් වලින් බැඳලා තිබ්බානෙ කිව්වා. එතකොට භාග්‍යවතුන් වහන්සේ වදාළා මහණෙනි, ඒකත් බන්ධනයක් තමයි. දම්වැල් වලින් කිටි කිටියේ බඳිනවා කියන එකත් බන්ධනයක් තමයි. හැබැයි මහණෙනි, ඔය බන්ධනයටත් වඩා අතිශයින්ම දරුණු අතිශයින්ම තියුණු ගලවන්න අමාරු බන්ධනත් තියෙනවා කිව්වා. එතකොට භික්ෂූන් අහනවා ස්වාමීනී, ඒ කවර බන්ධනයක්ද? බුදුරජාණන් වහන්සේ දේශනා කලා මහණෙනි, ඒ බන්ධනය තමයි දෙමව්පියො දරුවන් කෙරෙහි බැඳුනු බන්ධනය. මේ අපේ දරුවො කියලා බැඳෙනවා. ඒ බන්ධනයේ පින්වතුනි කිසිම රැහැනක් නැනෙ. ඒක මානසික බන්ධනයක්. අන්න කාමය. එහෙම බැඳෙනවා. දරුවො දෙමව්පියන්ට බැඳෙනවා. බිරිඳ ස්වාමියාට බැඳෙනවා, ස්වාමියා බිරිඳට බැඳෙනවා, රැහැනකින් නෙවෙයි, ඒවා මානසික බන්ධන. ඊළඟට පෙම්වතුන් පෙම්වතියන්ට බැඳෙනවා. යහලුවො යහලුවෝ බැඳෙනවා. සහෝදරයො සහෝදරයො බැඳෙනවා, සහෝදරියො

සහෝදරියො බැදෙනවා. හුරතලුන්ට බැදෙනවා, මේවා අභ්‍යන්තරයෙන් බැදෙන බන්ධන. ඊළඟට මිනිස්සු මහන්සි වෙලා ගේ හදාගන්නවා. හදාගන්න ගෙට බැදෙනවා, මානසික බන්ධන. මිනිස්සු අමාරුවෙන් මනුස්සයෙක් තමන්ගේ ජීවිතය ගත කිරීම පිණිස ගේ පොඩ්ඩක් හදාගත්තට පස්සෙ ඒ ගෙට ඒ ඉඩමට හිත බැදගන්නවා. ඒ බන්ධනයම ඒ කෙනාට මහා අවුලක් මහා වියවුලක් බවට පත්වෙනවා. මොකද ඒවා අත්හරින්න වෙන දවසට, මොකද ඉඩකඩම් වලට හානි සිද්ධ වෙනවා. නාය යෑම් වගේ අවස්තා ආවම බලා ඉද්දි වගේ ඒවා ඔක්කොම විනාශ වෙලා යනවානෙ. ඉතින් එහෙම වෙන්න පුලුවන්. එහෙම නැත්නම් ඒ කෙනාට මේවා අත්හැරලා දාලා මරණය ඉස්සරහ යන්න සිද්ධ වෙනවා. එහෙමත් වෙන්න පුලුවන්. ඒ හැම අවස්ථාවකදීම ඇයට උහුලගන්න බැරි අපහසුවක්, වේදනාවක් එනවා, ඇයි බැදිලා. සාමාන්‍ය බැදිච්ච තැන් නම් ගැටය හොයාගෙන ලිහලා අයින් කරන්න පුලුවන්. මේක බැදිච්ච තැනක්වත් හොයාගන්න බෑ. ප්‍රඥාවන්ත උත්තමයෙක් පැවසූ මේ බණ පදයක් ඇහුවේ නැත්නම්, අපේ සම්බුදුරජාණන් වහන්සේගේ ධර්ම දේශනාවෙන් අපි ඉගෙන ගත්තේ නැත්නම් මේවා කොහොම හොයන්නද. අභ්‍යන්තරයෙන් බැදෙන්න පටන් ගන්නෙ. ඒ බන්ධනය කියන එක, කාම බන්ධනය කියන එක පින්වතුනේ ඉමේව කාමෙ පුරිමේව ජප්පං කියලානෙ කිව්වෙ. මේ කාමය කලින් ඉදලාම හැදිච්චි ගැටයක්. ඒකනෙ සංසාරෙන් සංසාරෙට කාම බන්ධනයත් එක්ක එන්නෙ. ඒ කාම බන්ධනයත් එක්ක සසරින් සසරට ප්‍රශ්න එනවානෙ. කාමය හින්දාම ප්‍රේමය හටගන්නවා. ඒ කාමය හින්දාම වුනු ප්‍රේමයෙනුත් සංසාර බන්ධන. ඊළඟට කාමය හින්දාම පටිගයත් හටගන්නවා. ද්වේශය. ඒකෙනුත් සංසාරෙම ප්‍රශ්න. ඔහොම සංසාරෙන් සංසාරෙට මහා ප්‍රශ්න ගේනවානෙ. මිනිස්සු විදවන විදවිලි, මේ ඔක්කොම කාමය නිසා. කාමයත් එක්ක යම් කාලයක් එකතු වෙලා ඉන්නවාද, ඒ එකතු වී සිටිනතාක් ඒ කෙනාට විඳවිල්ලක්මයි තියෙන්නෙ. පළගැටියෙක් යම් තාක් ගින්නට ඇලෙනවාද, දැවිල්ලමයි. සැනසුමක් හොයාගෙන තමයි ඇය යන්නෙ, හැබැයි එතන තියෙන්නෙ දැවිල්ල. ගිනිදැල්ල දිහා බලාගෙන පළගැටියා සැනසීමක් පතනවා, පැතුවාට එතන තියෙන්නෙ දැවිල්ල. කාමය කියන්නෙ අන්න ඒ වගේ එකක්. ඉතින් අපිට මේ විදියට කාමය ගැන අහන්න ලැබීම හරි ලාභයක්. මොකද සාමාන්‍ය ලෝකෙ මිනිස්සු කාමය පරිහරණය කරනවා, කාමය කියන්නෙ මෙහෙම එකක් කියලා දන්නේවත් නැතිව. කාම බන්ධනය හටගත්තාට පස්සෙ ඒ කාම බන්ධනය විස පොවාපු ආයුධය වගේ අභ්‍යන්තරයට කිදා

බැහැලා ඒ කිඳා බැහැපු එක නිකං තියෙන්නෑ විස දුවනවා ඇඟ දිගේ. යම් දවසක ආයුධය ගලවලා ඉවත් වෙනවා. ආයුධය ඉවත් වුනත් විස යන්නෑ. කවුරුහරි මියගියාට පස්සේ සුසුම් හෙල හෙලා කොච්චර විඳවනවාද. විස, මොනවාහරි අහිමි වුනාට පස්සෙ කොච්චර විඳවනවාද. විස. ඒක තමයි කාමයෙන් හැදුනු විස. ඔය කාම බන්ධනය ඔය කාම ගැටය ගත්තහම අපිට ඒක අල්ලන්න ලේසි නෑ පින්වතුනේ මේ ධර්මයක් තුළින් තේරුම් අරගෙන යෝනිසොමනසිකාරය කිරීමෙන් නිදහස් වෙනවා මිසක් පුංචිම අවධිය ගත්තහම චූටි දරු පැටව්, පුංචි ළමයි ඒ අයට ගෙනත් දෙන සෙල්ලම් බඩු වලටනෙ මුලින්ම බැඳෙන්නෙ. සෙල්ලම් බඩුවක් ගෙනත් දුන්නට පස්සෙ සෙල්ලම් බඩුව ලෝකෙ කරගන්නවා. ඒ සෙල්ලම් බඩුව කැඩුනොත් හරි, ඒ සෙල්ලම් බඩුව උදුරගත්තොත් හරි කොච්චර ළමයි කෑගහනවාද, තමන්ගේ ඇඟෙන් කෑල්ලක් ගලවලා ගත්තා වගේ කෑගහන්න පටන් ගන්නවා. බන්ධන. එහෙම සියුම්ව හටගත්ත බන්ධන තමයි ලොකු වෙනකොට ඒ බන්ධන අහිමි වීම් වලදී අර පොඩි ළමයි වගේ අවංකව ප්‍රකට කරන් නෑ. හැබැයි බන්ධනය හින්දා එන අමාරුව එනවා ඇතුලේ. ඒක උහුලගෙන ඉඳලා තවත් මානසික ලෙඩ්ඩු බවට පත්වෙනවා. ඉතින් ඒ නිසා මේකෙ කරන්න තියෙන්නෙ ජීවිතේ ගැන තේරුම් ගන්න එකමයි, කාමය කියන්නෙ විස පොවපු ආයුධ වගේ දෙයක්, උපාදානස්කන්ධ කියන්නෙ මස් වැදලි වගේ දෙයක්. උඹ ඔය කියන කාම රතිය මට දැන් අරතියක්. ජීවිතේ අවබෝධ කරපු නිසා ඒ උත්තමාවි කියනවා මාරය, ඔහේ ඔය යම් කාම රතියක් ගැන, කාමයේ එකතු වී වාසය කිරීමක් ගැන ඔහේ දැන් යම් කතාවක් මට කියනවා නම්, ඒක මට දැන් අරතියක්. ඒක තුළ කිසි සැපක්, ඒක තුළ කිසි සංසිඳීමක් මට ඇත්තෙ නෑ. කාම සැපය කියන එක මහා සැපක් වගේ දැනෙන්නෙ ලෝකයේ විඳින්න ඕන සැප වින්දෙ නැති අයට. බුදුරජාණන් වහන්සේ දේශනා කලා මහණෙනි, සම්බුද්ධ ශාසනයක් තුළ උපදවාගන්න යම් නෙක්ඛම්ම සැපයක් ඇත්ද, කාමයන්ගෙන් නික්මී නෛෂ්කර්මයෙන් ලබන සතුට, සැපය, ඒකට කියනවා නෙක්ඛම්ම සැප. යම් පවිවේක සැපයක් ඇත්ද, පවිවේක කියලා කිව්වෙ හුදෙකලාවේ දහම් සුව විඳිමින් ලබන සැප. යම් උපසම සැපයක් ඇත්ද, කෙලෙස් සංසිඳවීමෙන් කෙලෙස් පීඩා නැතිකම නිසා ලැබෙන සැප, රාගය නැති හිතේ සැප, ද්වේෂය නැති හිතේ සැප, මෝහය නැති හිතේ සැප, ඉරිසියා කුහකකම් නැති හිතේ සැප. සම්බෝධ සුඛයක් ඇත්ද, සම්බෝධ සැප කියලා කිව්වෙ අවබෝධයේ සැපය. ජීවිතාවබෝධය ලබනකොට තියෙන සැපය. බුදුරජාණන් වහන්සේ දේශනා

කලා මහණෙනි යමෙක් ඔන්න ඔය සැප අත්විඳලා නැත්නම්, නෙක්ඛම්ම සැපය, පවිවේක සැපය, උපසම සැපය, සම්බෝධ සැපය අත්විඳලා නැත්නම් එයාට නම් කාම සැපය කියලා කියන්නෙ මහාමෙරක් වගේ ලොකු එකක්. ඇයි එයා හැබෑ සැප ස්පර්ශ කරලා නැති නිසා. හරියට ලෝකෙ රසවත්ම කෑමක් කාපු නැති මනුස්සයා නීරස එකත් මහා එකක් කියලා හිතනවා. ඇයි එයා රහට කාලා නෑ. රසවත් බීමක් බීලා නැති මනුස්සයා, නීරස බීම ගෙනත් ෂා මේක හරි ෂෝක් කියලා හිතනවා, ඇයි මිනිහා රහට බීලා නෑ. අන්න ඒ වගේ. සබ්බත්ථ විහතා නන්දි තමෙක්ඛන්ධො පධාලිතො ඒවං ජානාහි පාපිම නිහතො ත්වමසි අන්තික - මං හැමදෙයක් ගැනම තිබුනු තණ්හාව නැති කලා. අවිද්‍යා අන්ධකාරය සිඳ බිඳ දැම්මා. මාරය ඔන්න ඔය විදියටයි ඔහේ ඔය කාරණය ගැන තේරුම්ගන්න ඕන, මේ කාරණයේදී නැසී සිටින්නේ ඔබයි, මං නැසිලා නෑ කිව්වා. දැන් මාරයා මේ අර්හත් උත්තමාවියත් එක්ක කතා කරන්නෙ ඇවිල්ලා කෙලෙස් සහිතවනෙ. කාමයට බැඳුනු කෙනෙක් විදියට, කාම බන්ධනයෙන් නිදහස් වෙච්චි නැති කෙනෙක් විදියට, අභ්‍යන්තර සතුරෝ ඉන්න කෙනෙක් විදියට තමයි මාරයාගේ කතාව. කියනවා මාරය, ඔහේ නැසිලා ඉන්න කෙනෙක්. මං නැසුන් නෑ, ඔහේ දුක් සහිත සසරේ ඉන්න කෙනෙක්. මං සසරේ නෑ. ඔහේ කෙලෙස් පටලැවිලා ඉන්න කෙනෙක්. මං ඒ පටලැවිල්ලෙ නෑ, මං නිදහස් වුනා. එහෙම කියනකොට මාරයාට හරී දුක හිතුනා. මාරයා කල්පනා කලා අයියෝ මේ උප්පලවණ්ණා තෙරණී මාව දැනගත්තා නොවැ. උප්පලවණ්ණා තෙරණී මාව හඳුනගත්තා නොවැ කියලා හරී දුකට පත්වෙලා එතනම මාරයා නොපෙනී ගියා. උප්පලවණ්ණා අර්හත් උත්තමාවිය. මේ බුද්ධ ශාසනයේ භික්ෂුණී සංඝයාට මිනුම් දණ්ඩ කරගන්න කිව්ව භික්ෂුණිය. බුදුරජාණන් වහන්සේගේ ශාසනය තුළ නිල් මහනෙල් මල් පැහැයෙන් බැබළිච්චි ද්විතීය අග්‍ර ශ්‍රාවිකාව, මේ බුදුසසුනේ භික්ෂුණී සංඝයා අතරේ ඍද්ධි බලයෙන් අග්‍රප්‍රාප්ත වූ භික්ෂුණිය ඒ උප්පලවණ්ණා අර්හත් උත්තමාවියට වන්දනා කරමින් නමස්කාර කරමින් අපිත් අධිෂ්ඨාන කරමු සම්බුද්ධ ශාසනයක සත්‍ය වූ නිර්මල වූ පාරිශුද්ධ සද්ධර්මය අහන්න ලැබිච්චි මේ කාලෙ අපිත් ඒ දහම් පද ගැන හොඳට හිත පහදවාගෙන අපේ ජිවිතෙත් හැකි අයුරින් ධර්මය දියුණු කරගෙන අපිට මේ ජීවිතයේ ධර්මය තුළින් සුවපත් කරගන්න සැපවත් කරගන්න අවකාශ සැලසෙත්වා. ඒ රහතන් වහන්සේලාත් රහත් තෙරණින් වහන්සේලාත් සැනුසුනු නිවනේ අපි හැමදෙනාට සැනසෙන්න ලැබෙත්වා, සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අපි අනුමෝදන් කරමු සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරු, සෙන්පති දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවියෝ සතුටින් පින් අනුමෝදන් වෙත්වා, පින් අනුමෝදන් වන දෙවිවරු දිව්‍ය සැපයෙන්, දිව්‍ය ආශ්චර්‍යයෙන් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ රැකවරණ අප හැමදෙනාට දෙවියෝ සළසත්වා. දෙවියෝද සංසාර දුකින් අතමිදෙත්වා. සාදු සාදු සාදු!!! ගුරු දේවොත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට පින් අනුමෝදන් වෙලා ගරු දේවයන් වහන්සේ නිදුක් වෙත්වා, නිරෝග වෙත්වා, දීර්ඝායුෂ ලබත්වා. මේ ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අද ධර්ම දානයේ ප්‍රධාන අරමුණ ලෙස සඳහන්කොට ඇති පරිදි 73 වෙනි ජන්ම දිනය යෙදුනු පින්වත් අයි.එම්. බණ්ඩාර ඉලංගසිංහ පියාණන්ට මේ සියලු පුණ්‍ය ධර්මයෙන්ගේ ආශිර්වාදය, බුද්ධ රත්නයේ ආශිර්වාදය, ධර්ම රත්නයේ ආශිර්වාදය, සංඝරත්නයේ ආශිර්වාදය, පින් අනුමෝදන් වෙලා සතුටු වෙන සියලු දෙවි දේවතාවුන් වහන්සේලාගේ ආශිර්වාදය නොඅඩුවම සැලසෙත්වා. නිදුක් නිරෝග සුව සැලසේවා, දීර්ඝායුෂ සැලසේවා, මේ ගෞතම ශාසනය තුළ සුවසේම පින් දහම් සිදු කරගෙන දහම් මග දියුණු කරගෙන ගෞතම සසුනේ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්නත් මේ සියලු පුණ්‍ය ධර්මයෝ හේතු වාසනා වෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. අයි.එම්. බණ්ඩාර පියාණන්ගේ නමින් මියපරලොව ගිය කරවිලගල කපුරුබණ්ඩා ඉලංගසිංහ පියාණන්ට, පී.බී. පිංකිඅම්මා මැණියන්ට, අයි.එම්. රන්බණ්ඩා වැඩිමහල් සහෝදරයාට සහ සුමනා ඉලංගසිංහ වැඩිමහල් සහෝදරියට මේ සියලුම පුණ්‍ය ධර්මයෝ එක ලෙසින්ම අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. අතීතයේ සිට මේ දක්වා මාතෘ භූමිය රැකීමට දායක වූ සියලූම රණවිරුවන්ට මේ සියලු පින අනුමෝදන් කරන්න අද ධර්ම දානය සිදු කරන පින්වතුන්ලා බලාපොරොත්තු වෙනවා. මේ ලංකා භූමියේ අපගේ මාතෘ භූමිය බුදුරජාණන් වහන්සේගේ ධර්මය පිහිටි සොඳුරු ධර්මද්වීපය, භාග්‍යවතුන් වහන්සේගේ ධාතූන් වහන්සේලා වැඩ ඉන්න පුණ්‍ය භූමිය, මේ ආරක්ෂා කිරීම පිණිස අතීතයේ පටන්ම කැප වුනු ඒ රණවිරුවන් සෑම සියලු දෙනාටම දිවි පුද කල රණවිරුවන් සෑම සියලු දෙනාට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. ඒ මියපරලොව ගිය සියලුදෙනාගේම ජීවිත සැපයෙන් සැපයටම පත්වෙත්වා, ඒ හැමටත් දුක්ඛිත

සංසාරගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙන්න ලැබෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනා සිදු කරන්න. මේ වෙනකොට අසනීප තත්වයෙන් පසුවෙන පින්වත් අයි.එම්.කේ.බී. ටිකිරිබණ්ඩා පියාණන්ට මේ සියලු පින් අනුමෝදන් වෙලා ඒ පියාණන්ට ඉතා ඉක්මණින්ම නිදුක් නිරෝගී සුව ශාන්තිය ලැබෙත්වා කියලා අපි සෙත් පතනවා. අයි.එම්. බණ්ඩාර ඉලංගසිංහ පියාණන්ට, සුජීවත්ව සිටින බිරිඳ වන සුධර්මා විජේසුන්දර මෑණියන්ට කුමුදුනී ඉලංගසිංහ දියණියට සහ මධුශංඛ ඉලංගසිංහ පුතණුවන්ට මේ සියලු පින් අනුමෝදන් වෙලා නිදුක් නිරෝගී සුව සැලසේවා. දීර්ඝායුෂ සැලසේවා. අයි.එම්. බණ්ඩාර පියාණන්ගේ සුජීවත්ව සිටින සියලු ඥාති සමූහයාට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා. අද ධර්ම දානය සිදු කරන්නේ නො.1053, දෙවන පියවර, අනුරාධපුර යන ලිපිනයේ පදිංචි ඒ 73 වෙනි ජන්මදිනය යෙදුනු බණ්ඩාර ඉලංගසිංහ පියාණන්ට සෙත් ප්‍රාර්ථනා කරන අදහසින් ආදරණීය පුතණුවන් වන ලොෂාන් ඉලංගසිංහ මහත්මා සහ ඒ මැතිණිය විසිනුයි මේ ධර්ම දානය සිදු කලා වූ ඒ පින්වතුන්ලාගේ පවුල් වල සෑම සියලු දෙනාට පින් අනුමෝදන් වෙලා ඒ සියලු දෙනාට සියලු යහපත උදාවේවා. කරන කියන රැකී රක්ෂා ආදිය, දූදරු මුනුපුරු මිණිබිරියන්ගේ අධ්‍යාපන කටයුතු ආදිය සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වේවා. කල්‍යාණමිත්‍ර ඇසුරේ කිසීම කරදරයකින් බාධාවකින් තොරව පින්වතුන්ලාට දහම් මග දියුණු කරගන්නටත්, තවදුරටත් සුවසේ පින් කරගන්න අවකාශ ලබෙත්වා. මේ ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න පින්වතුන්ලා හැමදෙනාටම මේ ධර්ම දානමය පින ඒකාන්ත වශයෙන්ම හේතු වාසනාවෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලා සියලුදෙනාට, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට ඒ වගේම සුපින්වත් ඔබ සෑම සියලු දෙනාට මේ ගෞතම සසුන තුළ සුවසේම දහම් අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා, හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=ZDdjvO1_K1s

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මාගේ වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද දවසේ අපි ශ්‍රවණය කරන උතුම් ධර්මය ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණින් වහන්සේ නමක් ගැන, මේ ධර්මය අහනකොට අපිට තේරෙන කාරණය දාසයෙක් විදියට හරි නුවණැත්තෙක් ළඟයි ඉන්න ඕන. නුවණැත්තෙකුට දාසකම් කරගෙන හිටියත් යහපතක්මයි. නුවණැත්තෙකුට දාසකම් කරත් ලාභයක්මයි. මෝඩයෙක් ළඟ අඥාණයෙක් ළඟ මහා ධන සම්පත් ඇතුව හිටියත් පාඩුවක්මයි. ඒක හොඳට තේරෙනවා අද මේ අහන ධර්මයෙන්. අද මේ ධර්ම දේශනාව සඳහා දායකත්වයන් දරනු ලබන්නේ පින්වත් සුනෙත් සංජීවන වීරතුංග මහතා සහ මනීෂා රත්නායක මහත්මිය යන ඒ පින්වතුන්ලා දෙපල විසින්. ඒ පින්වතුන්ලාගේ දායකත්වයෙන් අද ඔබට අහන්න ලැබෙනවා පුන්නා අර්හත් තෙරණිය ගැන. ඒ තෙරණින් වහන්සේගේ නම පුන්නා. මේ පුන්නා කියලා කියන්නෙ ඇත්තෙන්ම අනේපිඩු සිටුතුමාගේ නිවසේ දාසකම් කරපු තැනැත්තී. අනේපිඩු සිටුවරයාගේ නිවසේ හිටපු දාසිය. ඈ දාසකම් කලේ නුවණැත්තෙකුට. ඈ දාසකම් කලේ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙකුට. එහෙම දාසකම් කරගෙන ඉන්න ඇයට සිද්ධ වුනේ ඇයි? දාස කුලයක උපන්නේ මොකක් නිසාද? ඒකටත් හේතුවක් වුනා සංසාර ගමනේ වැරදිච්ච තැනක්. මේ අතිදීර්ඝ සංසාර ගමනේ ඉපදෙමින් මැරෙමින් එනකොට ඈ ගොඩාක් බුද්ධ ශාසනවල පැවිදි වෙච්චි කෙනෙක්. විපස්සී බුද්ධ ශාසනෙත් පැවිදි වුනා. සිඛී බුදුරජාණන් වහන්සේගේ ශාසනෙත් පැවිදිවුනා. ඊළඟට වෙස්සභූ බුදුරජාණන් වහන්සේගේ ශාසනෙත් පැවිදි වුනා. කකුසඳ බුදුරජාණන් වහන්සේගේ බුද්ධ ශාසනෙත් පැවිදි වුනා. කෝණාගමන බුදුරජාණන් වහන්සේගේ බුද්ධ ශාසනෙත් ඇය පැවිදි වුනා. කාශ්‍යප බුද්ධ ශාසනයෙත් ඔන්න ඇය පැවිදිවුනා. භික්ෂුණී සංඝයා අතරේ පැවිදි වෙලා ඈ හරි ඉක්මණට ධර්ම කථික භික්ෂුණියක් බවට පත්වුනා. හරි ලස්සනයි බණ කියනකොට. ධර්ම කථිකත්වය නිසා ඇයට ලාභ සත්කාර හැදුනා. හරි පිළිගැනීම. පිළිගැනීම් වලින් ඇය මත්වුනා. පිළිගැනීම් වලින් මත්වෙලා අනික් භික්ෂුණීන් වහන්සේලාව හෙලා දැකලා හිතුවා. අනික් ගුණ සම්පන්න

සීලවන්ත භික්ෂුණීන් වහන්සේලාව තමන්ට නිකං අර දාසකම් කරවීම පිණිස ඇය පාවිච්චි කලා. අරක ගෙනත් දෙන්න, මේක ගෙනත් දෙන්න, අරක කරන්න, මේක කරන්න කියලා තමන්ගේ ලාභ සත්කාර වලින් මත්වෙලා ගුණවන්ත අයව දාසකමට යොදාගත්තා. කර්ම විපාකෙ කරකැවිලා එනවා. කර්ම විපාකය කරකැවිලා එනවා. ඈ එතනින් පස්සෙ ලබන ජීවිත වල ඈ උපදින්නේම දාසි කුලයේ. දාසියක් විදියට උපන්නෙ. ඉතින් එහෙම ඉපදි ඉපදි ඇවිල්ලා තමයි අපේ භාග්‍යවත් අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ අපගේ ශාස්තෘන් වහන්සේ ලෝකෙ පහළවෙන කාලෙ බුදුරජාණන් වහන්සේ පිළිබඳව අචල ශ්‍රද්ධාවක් ඇති අනාථපිණ්ඩික සිටුවරයාගේ නිවසේ දාසි වුනා. දැන් මේ දාසිටත් නිතර නිතර සංඝයාට උපස්ථාන කරන්න ලැබෙනවා. නිතර නිතර බුද්ධෝපස්ථාන කරන්න ලැබෙනවා. සිටුතුමාගේ නිවසට භාග්‍යවතුන් වහන්සේ දානයට වැඩම කරලා ඒ දානෙන් පස්සෙ ගුප්තානුමෝදනා බණ කියනවානෙ. එතකොට ඇයට බණ අහන්න ලැබෙනවා. ඇගේ හිතෙත් ශ්‍රද්ධාව උපන්නා. මං ඒකයි කිව්වෙ නුවණැත්තෙක් ළඟ දාසකම් කලත් ලාභයක්. ඒ දාසකම් කරද්දි ඇයට බණ අහන්න ලැබුනෙ. ඇයට උදාර පින්නෙ රැස් කරගන්න ලැබුනෙ. එහෙම බණ අහමින් ඉද්දි එක දවසක් නිවසට වැඩම කරලා දානෙ වළඳලා දානෙන් පස්සෙ භාග්‍යවතුන් වහන්සේ දේශනා කලේ සීහනාද සූත්‍රය කියන උතුම් ධර්මය. මොකක්ද මේ සීහනාද සූත්‍රය කියලා කියන්නෙ. බුදුරජාණන් වහන්සේ එහි වදාරන්නෙ මෙහෙම. සීහො භික්ඛවෙ මිගරාජා - මහණෙනි කැලේ සතුන්ට රජු වන්නේ සිංහයාය. ඒ කැලේ සතුන්ට රජ වූ සිංහයා, සායන්හ සමයං ආසයා නික්ඛමති - හවස් කාලයේ තමන්ගේ ගුහා ද්වාරයෙන් එළියට පිවිසෙනවා. ආසයා නික්ඛං මිත්වා විජම්භති - එළියට පැමිණ කයේ කෙසරු සළනවා. කයේ කේසර සලලා චතුද්දිසං අනුලෝකෙන්ති - ඒ සිංහයාගේ තියෙන උදාර පැවැත්මක්, ගම්භීර පැවැත්මක්. සිංහයා කිසි භයක් නැතිව සිව්දිසාව බලනවා. තික්කත්තං සීහනාදං නදති - ඊටපස්සෙ තුන්වතාවක් සිංහනාද නගනවා. ගොදුරු සොයා යන්න පෙර. සිංහයෙක් ගොදුරු සොයා යනවා කියන්නෙ මොකෙක් හරි සතෙක් මැරෙනවානෙ. සතෙක්ව ඩැහැගන්න යන්න පෙර සිංහයා, සිංහනාද කරලා කියනවා යන්නෙ. හොරාට යන්නෑ, දැන් සාමාන්‍ය සත්තු අනිත් සත්තුන්ව ඩැහැගන්නකොට ඒ ඩැහැගැනීම පිණිස නිහඬව හොරාට යනවා. කුරුමානම් අල්ලමින් යනවා. කේසර සිංහරාජයා එහෙම නෑ කියනවා. උග්‍ර ගර්ජනා කරගෙන යන්නෙ. ඒ ගර්ජනා කිරීමේ අදහස කියනවා සිංහයෙකුට මා මේ පැමිණෙද්දී ප්‍රමාද වෙලා

ඉන්න සත්තු මෙය දැනගනිත්වා. එහෙම අභීත ස්වභාවයක් තමයි සිංහයෙකුට තියෙන්නෙ. ඉතින් ඒ ඇත්තටම පින්වතුනි ඒ කේසර සිංහයන්ගේ ස්වභාවය. මෘගරාජ වූ සිංහයන්ගේ ස්වභාවය. අකුණකටවත් සලිත වෙන්නෙ නැති හිතක් තියෙන සිංහයාගේ ස්වභාවය ඒක. බුදුරජාණන් වහන්සේ ඇයි සිංහයෙක් ගැන කියාදුන්නෙ? භාග්‍යවතුන් වහන්සේ දේශනා කලා මහණෙනි, සිංහරාජයා කියලා කියන්නෙත් තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ උපමා කරන්න කියපු නමක්. කැලයේ සතුන්ට සිංහයාම රජ වෙනවා. සිංහයාම අග්‍ර වෙනවා. තුන්ලොවටම බුදුරජාණන් වහන්සේම අග්‍ර වෙනවා, බුදුරජාණන් වහන්සේම ශ්‍රේෂ්ට වෙනවා. ඒ ශ්‍රේෂ්ට වූ තථාගතයන් වහන්සේ සියලු වූ පිරිස් මැද යම් ධර්මයක් දේශනා කරනවාද, ඒ සත්‍යය වූ නිර්මල වූ පාරිශුද්ධ වූ ධර්මය තමයි තථාගත සිහරජාණන්ගේ සිංහනාදය කියලා බුදුරජාණන් වහන්සේ වදාළේ. භාග්‍යවතුන් වහන්සේ දේශනා කරනවා මහණෙනි, තථාගතයන් වහන්සෙ මේ විදියට සිංහනාද කරන්නේ තථාගතයන් වහන්සේ තුළ පිහිටි ඥාණ බල දහයක් නිසා. ඒ ඥාණ බල දහයට කියනවා තථාගත දසබල. මොනවද පින්වතුනි ඒ තථාගත දස බල? අපි සරණ ගියපු අපගේ බුදුරජාණන් වහන්සේට තථාගත දස බල ඇත. ඨානං ඨාන තො අට්ඨානංච අට්ඨානතො යතාභූතං පජානාති - මේ ලෝකයේ සිද්ධ වෙන්න පුලුවන් දේ සිද්ධ වෙන්න පුලුවන් දේ විදියටත්, මේ ලෝකෙ සිද්ධ වෙන්න බැරි දේ, සිද්ධ වෙන්න බැරිදේ විදියටත් යතාර්ථ වශයෙන්ම දන්නේ අපගේ බුදුරජාණන් වහන්සේයි. ඒ පළමුවෙනි දසබල ඥාණය. අතීත අනාගත වර්තමාන යන මේ කාල ත්‍රිත්වයටම අයිති යම් ඒ කර්ම ඇත්ද, ඒ කර්ම කරන්නවුන්ගේ විපාකය හේතු වශයෙන්, තැන් වශයෙන් මනාකොට දන්නේ ලොව්තුරා බුදුරජාණන් වහන්සේ. දෙවැනි දසබල ඥාණය. ඒ අපගේ තථාගතයන් වහන්සේ සියලු තැන්වලට යන්න හේතුවෙන ප්‍රතිපදාවන් මැනැවින්ම දන්නා සේක, තුන්වෙනි දස බල ඥාණය. අනේක ධාතු ස්වභාවයෙන් යුතු නානා ධාතු ස්වභාවයෙන් යුතු ලෝක ස්වභාවය පිළිබඳව මනාකොට දන්නේ බුදුරජාණෝය. හතරවෙනි තථාගත දසබල ඥාණය. සත්වයන්ගේ නොයෙක් ගති ස්වභාවයන් පිහිටා ඇති අයුරු. ඒ සත්වයො නොයෙක් දුර්වලකම් වලින් ඉන්න හැටි, මේ සත්වයො නොයෙක් දක්ෂතා තුළ ඉන්න හැටි බුදුරජාණන් වහන්සේ බුදු නුවණින් දකින්නේය. හරියට රෝගියෙක්ව එකතු කරගෙන ගියාට පස්සෙ වෛද්‍යවරු ඒ රෝගියාව ස්කෑන් කරලා බලනවා. ඒ ස්කෑන් කරන මැෂින් එකට ඒ රෝගියාගේ ශරීර අභ්‍යන්තරය මනාකොට පේනවා. අන්න ඒ වගේ බුදුරජාණන් වහන්සේ නමක්

සත්වයාගේ ජීවිතය දිහා බලනකොට ජීවිතයේ අඩුපාඩු, ජීවිතයේ ගුණ හැමදේම බුදුරජාණන් වහන්සේට පේනවා. දක්ෂතා බුදුරජාණන් වහන්සේට පේනවා. අතිදීර්ඝ සංසාර ගමනක සියලු කතාව භාග්‍යවතුන් වහන්සේ නුවණින් දකිනවා. ඒ භාග්‍යවතුන් වහන්සේගේ දසබල ඥාණයයි. බාහිර සත්වයන්ගේත් බාහිර පුද්ගලයන්ගේත් උසස් පහත් ආදී ඉන්ද්‍රිය ස්වභාවයන් පිහිටා ඇති අයුරු තථාගත බුදුරජාණෝ දන්නා සේක. හයවෙනි දසබල ඥාණය. බුදුරජාණන් වහන්සේ තමයි පින්වතුනි ඉන්ද්‍රිය හැසිරීම දන්නෙ. ශ්‍රද්ධා ඉන්ද්‍රිය කොහොමද තියෙන්නෙ, වීර්ය ඉන්ද්‍රිය කොහොමද තියෙන්නෙ, සති ඉන්ද්‍රිය කොහොමද තියෙන්නෙ, සමාධි ඉන්ද්‍රිය කොහොමද තියෙන්නෙ, ප්‍රඥා ඉන්ද්‍රිය කොහොමද තියෙන්නෙ කියලා භාග්‍යවතුන් වහන්සේ දකිනවා. ඒ දකිමින් බුදුරජාණන් වහන්සේ දහම් දෙසනවා. ඒ දසබල ඥාණයත්, තථාගත ඥාණයත් ධ්‍යාන විමෝක්ෂ සමාධි සමාපත්ති ආදිය කිළුටු වෙන හැටිත්, පිරිසිදු වෙන හැටිත්, නැගී සිටිනා සැටිත් යථාභූත වශයෙන් දන්නා සේක, හත්වෙනි තථාගත දස බලය. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ තථාගත දසබල ඥාණ වල අන්තර්ගත වෙනවා තව ඥාණ බල තුනක්. ඒ ඥාණ බල තුන තමයි පුබ්බේනිවාස ඥාණය නම් වූ තථාගත දසබලය, චුතූපපාත නම් වූ තථාගත දසබලය, ආසවක්ඛය නම් වූ තථාගත දසබලය. දැන් මේවා ගත්තහම පින්වතුනේ පුබ්බේනිවාස කියන එක ශ්‍රාවකයන්ටත් තියෙනවා, නමුත් බුදු කෙනෙකුගේ පුබ්බේනිවාස ඥාණය, අතීතය පිළිබඳව බුදුරජාණන් වහන්සේ සිහි කරන්න පටන් ගන්නකොට කෙළවරක් පනවන්න බෑ කියනවා. කෙළවරක් නැතිව කිසිම අඩුවක් නැතිව, අතොරක් නැතිව බුදුරජාණන් වහන්සේ දකිනවා. චුතූපපාත ඥාණය ගැන ගත්තහම බුදුරජාණන් වහන්සේගේ චුතූපපාත ඥාණය ඕනෑම සත්වයෙකුගේ චුත වීම උපත කියන එක භාග්‍යවතුන් වහන්සේට දකින්න පුලුවන්. බුදුරජාණන් වහන්සේගේ පරම පාරිශුද්ධ සන්තානය තථාගතයන් වහන්සේගේ පරම පාරිශුද්ධ සන්තානය, කෙලෙස් කසට කිසිවක් නැති සන්තානය තමයි ආසවක්ඛය ඥාණය. මේ ඥාණ බල දහයෙන්ම යුක්තවයි තථාගත බුදුරජාණන් වහන්සේ පිරිස් මැද ධර්ම දේශනා කරන්නෙ, හැබෑම සිංහනාදයෙන්. තථාගත සිහරජාණන්ගේ හැබෑම සිංහනාදය. ඉතින් මෙන්නෙ මේ සිංහනාද සූත්‍රය බුදුරජාණන් වහන්සේ භුක්තානුමෝදනාවක් විදියට දේශනා කලා. පුන්නා දාසි මේ බණ පදය අහගෙන හිටියා. අහෝ මේ බුදුරජාණන් වහන්සේ මෙතරම් ආශ්චර්‍යයීයිද, මම බුද්ධං සරණං ගච්ඡාමි කියලා සරණ ගියපු මගේ ශාස්තෘන් වහන්සේ මේ

තරම්ම අද්භූත ගුණයෙන් යුක්තයිද, මේ තරම්ම ලෝකයේ ශ්‍රේෂ්ටයිද, ඈගේ හිත පැහැදුනා. සීහනාදය සූත්‍රය අවසන් වෙනකොට ඇගේ චිත්ත ප්‍රසාදය අචල වූ චිත්ත ප්‍රසාදයක් බවට පත්වුනා. ඈ සෝතාපන්න ආර්ය ශ්‍රාවිකාවක් බවට පත්වෙනවා. දාසියක් විදියට දාසකම් කර කර හිටියේ. බුදුරජුන්ගේ ශ්‍රාවකයෙක් ළඟ, නුවණැත්තෙක් ළඟ බලන්න සැලසිච්චි යහපත. මහා ධනයක් ඇතිව මෝඩයෙක් ළඟ ඉන්නවාට වඩා මහා ධන සම්පත් ඇතිව, මහා සැප සම්පත් ඇතිව මෝඩයො ගොඩක් ළඟ ඉන්නවාට වඩා දුගියෙක් විදියට, දුප්පතෙක් විදියට, දුර්වලයෙක් විදියට දාසයෙක් විදියට හරි නුවණැත්තෙක් ළඟ ඉදීමයි ශ්‍රේෂ්ට. නුවණැත්තා ළඟ හිඳීමයි ශ්‍රේෂ්ට. සත්පුරුෂයා ළඟ ඉදීමයි ශ්‍රේෂ්ට. ජීවිතයට යහපත පෙන්වන කෙනා ළඟ හිදීමයි ශ්‍රේෂ්ට. භාග්‍යවතුන් වහන්සෙ වදාළේ නිදීනං ව පවත්තාරං යං පස්සේ වජ්ජ දස්සනං - ජීවිතේ වරදින තැන නිධානයක් සේ පෙන්වලාදෙන, නිග්ගය්හවාදිං මේධාවිං තාදිසං පණ්ඩිතං භජෙ - වැරැද්දක් දැක්කට පස්සෙ නිග්‍රහ කර කර ඔය වැරැද්ද හදාගනිං කියලා කියලාදෙන නුවණැත්තො සත්පුරුෂයො පණ්ඩිතයො ඇසුරු කරන්න. තාදිසං භජමානස්ස - එබඳු නුවණැත්තන්ව කෙනෙක් ඇසුරු කරන්නේ නම්, සෙයයා හොති - ජීවිතයට වන්නේ යහපතමය, නපාපියො - කවදාවත් පාපී දෙයක් වෙන්නේ නැත. ඒකනෙ භාග්‍යවතුන් වහන්සේගේ අනුශාසනාව. ඒක කොච්චර සත්‍යයක්ද, මේ දාසි අවසානයේ තුන්ලෝකාග්‍ර තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පිහිටි ශ්‍රාවිකාවක් බවට පත්වුනානෙ. දැන් ඇය සෝතාපන්න වෙලා. සෝතාපන්න වුනා කියන කාරණය බාහිරට පේන එකක් ද? බාහිරින් මොකුත් දකින්න බෑ. ඒ දාසියගේ රූප සෝභා මොකුත් වෙනස් වුන් නෑ. ඇය අඟලක් දෙකක් පොළොවන් ඉස්සුන් නෑ. ඇය සෝතාපන්න වෙලා. අවබෝධයක් ඇතිව දැන් ඇය ඉන්නවා. ඇය සම්බන්ධයෙන් අවධානයෙන් හිටපු කෙනෙකුට තේරෙන්න ඇති ඇය පෙරට වඩා සතුටින් ඉන්නවා. ඇය පෙරට වඩා සුවසේ ඉන්නවා. ඉතින් මේ සෝතාපන්න ඵලය සාක්ෂාත් කරපු දාසි දවසක් වෙනදා වගේම දිය අරගෙන එන්න නදියට යනවා කළෙත් අරන්. ඇය හැමදාම දැක්කා මේ නදියේ උදෑසනින්ම සොත්ථිය කියලා බමුණෙක් පව් සෝදනවා. ඔය බමුණන්ගේ එක එක ක්‍රම තියෙනවානෙ පව් සේදීම කියලා, අදටත් ඉන්දියාවේ තියෙනවානෙ පින්වතුනි ඔය මහා උත්සව තියලා. ගංගා නදියේ වතුරෙන් පව් හෝදාගන්නවා කියලා මිනිස්සු ගඟේ බහින්නෙ පව් හේදෙන්න. ඒ මතය ඈත අතීතයේ ඉඳලා තිබ්බ එකක්, වතුරෙන් පව් සෝදා හරිනවා. ගංගා නදියේ පාරිශුද්ධ ජලයෙන්

මගේ පව් සේදේවා කියලා වතුරේ ගිලෙනවා. උදේ පාන්දර ජාමෙ කිටිකිටියේ වෙව්ලන වතුරේ, කිටිකිටියේ වෙව්ල වෙව්ල සීතල වතුරේ ඒ බමුණො ගිලෙනවා කියන එක පින්වතුනි අදත් තියෙන එකක්. ඔය නිගණ්ඨයො එහෙම ගත්තහම අදටත් සීතල නදියේ ගිලෙනවා. වතුර අල්ලන්නවත් බැරි තරම් සීතලයි, හැබැයි පව් හේදී යනවානෙ කියලා මේකෙ ගිලෙනවා. ඉතින් එහෙම චාරිත්‍ර, නොයෙක් සීලව්‍රත අදත් තියෙනවා, ඒ කාලෙ ඕවා ප්‍රබලව තිබුනා. එහෙම තිබ්ච්ච කාලෙ තමයි මේ සොත්ථිය බමුණාව මේ දාසිය දකින්නෙ. දැන් දාසිය ජීවිතාවබෝධය ලැබූ තැනැත්තියක්. ඈ දාසි කුලයේ වුනාට බ්‍රාහ්මණ කුලයේ ඉන්න අර සොත්ථිය බමුණාට ඈ මෙහෙම කතාවක් කියනවා. ධර්මාවබෝධ කරපු ශ්‍රාවිකාවකගේ විශාරද භාවය නම් අද්භූතයි. ධර්මය දැක්ක කෙනෙක්ගේ විශාරද භාවය අද්භූතයි. අර බමුණාගේ මෝඩ ක්‍රියාව දකිනකොට පුන්නා දාසිට අනුකම්පාවක් හටගත්තා. ඒ අනුකම්පාව හටගන්න හේතුව මොකක්ද? ඈ දැන් ජීවිතේ ගැන අවබෝධයක් තියෙන කෙනෙක්. අනේ මා ලැබූ අවබෝධය, ජීවිතේ ගැන මා දැකපු දේ මේ බමුණත් දකිනවා නම් අනුකම්පා කලා. ඒ අනුකම්පාවෙන් ඈ අර බමුණාට කියනවා මෙහෙම. ඒ විස්තරය තමයි ථෙරී ගාථාවෙත් සඳහන් වෙන්නෙ. ඇය කියනවා මං සීතලේම වතුර ඇද්දා. හැමතිස්සේම මං සීතලේ වතුරට බැස්සා. බමුණ මං එහෙම කලේ ස්වාමිදරුවන්ගේ දඬුවම් වලට බයේ. උදේ පාන්දර වතුර ටික අරගෙන ගියේ නැත්නම් කොච්චර සීතලේ හරි ඇවිල්ලා වතුර ටික අරගෙන ගියේ නැත්නම් ස්වාමිදරුවො මගේ සිටුනිවසේ ස්වාමිදරුවො මට දඬුවම් කරනවා, දොස් කියනවා, දාසියක් විදියට ඒ බැනුම් වලට බයේ තමයි මං නම් සීතලේම වතුර ඇද්දෙ, මං සීතලේම වතුරට බැස්සෙ ඒ නිසා. බැනුම් අහන්න බයේ. මගෙන් වරදකි වෙයි කියන භයෙන්. ඒත් බ්‍රාහ්මණය ඔහේ ඔය කාට බයවෙලාද හැමදාම ඔය වතුරට බහින්නෙ. අතපය වෙව්ල වෙව්ලා අධික සීතලෙන් දුක් විඳිමින් ඉන්නෙ ඔහේ කාට බයේද. දැන් මේ සීතල වතුරේ බැහැලා කිටිකිටි ගාලා වෙව්ලනවා. වෙව්ල වෙව්ල වුනත් යළිත් නදියේ ගිලෙනවා. කාට බයේද කියලා අහනවා. එතකොට මේ සොත්ථිය බමුණා කවදාවත් නැතිව මේ දාසිය අහන කතාව ගැන පුන්නට කියනවා, ඈ පුන්නා මගෙන් ඕක අහන්නෙ තී දැනගෙනම නේද. මං මේ කරන්නෙ පව් සෝද සෝදා කුසල් රැස් කරන එකනෙ. තී ඒක දන්නැද්ද කිව්වා. අපේ බ්‍රාහ්මණ ඉගැන්වීම් වල තියෙනවානෙ මේ නදියේ උදෑසනින්ම ගිලුනහම කරපු පව් ඔක්කොම නදී දියට සේදී යන්නේය. ජීවිතය කුසලින් පිරෙන්නේය. ඒකනෙ මේ කරන්නෙ. තී ඕක දන්නැද්ද කිව්වා.

මහල්ලෙක් හරි තරුණයෙක් හරි එයාගේ පව් මොනවහරි කරලා තියෙනවානම් ඒ පව් වලින් නිදහස් වෙන්නෙ මෙන්න මේ විදියට ජල ස්නානය කිරීමෙනුයි. ඒ තමයි බමුණො උගන්වලා තිබ්බ ඉගැන්වීම. ඒ විදියේ නොයෙක් ඉගැන්වීම් තියෙනවානෙ පින්වතුනේ. ඒ ඉගැන්වීම් හරි අද්භූතයි. මනුස්සයො ඒක අදහාගන්නවා. කියනවා හරියට දකුණු කකුල තමයි පෙරට තියලා යන්න ඕන කියනවා. අපේ අයත් ගානට කරන් නැද්ද. මේ වෙලාවට තත්පරේ එහාමෙහා වෙන්නැතිව ඔලුවේ තෙල් ටික ගාන්න ඕන කියනවා. ගානට කරනවා වෙලාව දිහා බලන් ඉඳලා. මේ වෙලාවට තත්පරයට කිරි උතුරන්න ඕන කියනවා, ගාණට කිරි උතුරනවා. මුල් ගල නම් තියනවා නම් තියන්න ඕන මේ ටයිම් එකටමයි කියනවා, ගානට කරනවා, ඇයි මොකක් හරි අද්භූත එකක් ඇති කියලා හිතනවා. ඒ කියන වෙලාවේ මොකක් හරි එකක් ඇති. ඒ කියන ක්‍රමයේ මොකක් හරි එකක් ඇති. දැන් ලංකාවෙත් තියෙනවානෙ මේ විභාග වලට යන්න අලුතෙන් රස්සාවකට යන්න ඔන්න නැකැතක් බලනවා. නැකැත බැලුවාට පස්සෙ කියනවා අහවල් දිසාවට මුලින්ම පියවරක් තියලා තමයි ගමන ආරම්භ කරන්න ඕන, උළුවස්ස පන්නන්න ඕන දකුණු කකුල තියලාමයි. ඒකත් අහවල් දිසාවට වෙන්න ඕන කියනවා, ගෙදර ගිහින් බලද්දි ඒ දිශාවට දොරක් නෑ. ගෙදර දොරක් නැතිවුනොත් එහෙම උදේට දරුවා ස්කෝලෙ යන්න විභාගෙ ලියන්න ස්කෝලෙට යන්න හරි, එහෙම නැත්නම් අළුතෙන් දරුවෙක් රස්සාවට යන්න හරි, එයාට ගෙදර එළියට බහින්න තියෙන්නෙ එයාට කියාපු දිසාවෙන්, ඒ දොරක් නැතිව ජනේලයක් නම් තියෙන්නෙ ජනේලෙන් හරි එනවා. ඒ වගේ මානසික මට්ටමකට මේ මනුස්සයා අහුවෙන්නෙ හරි සරණක් නැති නිසා. ජීවිතය ගැන අවබෝධයක් සහිත සරණක් නැති නිසා. දැන් මේ පුන්නා ජීවිතය සම්බන්ධයෙන් හොඳ අවබෝධයකින් යුක්ත නිසා භය නැතිව මේ මෝඩකම කර කර ඉන්න බමුණාට මේක කිව්වා. බමුණා එතකොට වේදයේ තියෙන ඉගැන්වීම කිව්වා. එතකොට පුන්නා කියනවා, බ්‍රාහ්මනය කර්මයන්ගේ විපාක දෙන ස්වභාවය නොදන්නා ඔබට ඔය විදියට ජල ස්නානයෙන් පාපකර්ම වලින් නිදහස් වෙන්න පුලුවන් කියලා, ඔබට කියපු කර්මයන්ගේ විපාක දෙන ස්වභාවය දන්නේ නැති ඒ මෝඩ තැනැත්තා කවුද? කවුද ඔහේට බොරු කිව්වෙ කියල ඇහුවා. වතුර නැවොත් එහෙම පව් ඔක්කොම හේදෙනවා කියලා ඔහේට බොරු කතාව කිව්වෙ කවුද? ඕක ඇත්ත නම් මේ ඔක්කොම ගෙම්බො, කැස්බෑවො. කිඹුල්ලු වතුරෙ ඉන්න අනිත් ඔක්කොම සත්තු ටික ඒකාන්ත ස්වර්ගයේ නොවැ කිව්වා. බලන්න ඇය කියපු කතාව. වතුරේ ගිලී පව්

සෝදාහරින්න පුලුවන් නම්, වතුරේම ඉපදිලා වතුරේම ජීවත් වෙලා වතුරේම මැරිලා යන සත්තු, ඒකුන් ඒකාන්ත කොට සුගතියේනෙ කිව්වා. ඒකුන් ඒකාන්ත වශයෙන්ම සුගතියේනෙ කියලා කිව්වා. එතකොට මේකෙන් හොඳට තේරෙනවා ඇයට ඉපදිලා තිබුනු ඥාණය. ඒ ඥාණය තුළ විශාරදව පිහිටලා ඇය කතා කරන හැටි. දාසි කියන්නෙ මේ, ඕක ඇත්ත නම් එළුවො මරණ අය, ඌරො මරණ අය, මාළුවො මරණ අය නොයෙක් සත්තු මරණ අය, හොරු, අළුගෝසුවො තවත් පව් කරපු අය ඔක්කෝටම කරන්න තියෙන්නෙ බමුණ මහා දෙයක් නෙවෙයි, ඕන පව්කමක් කරලා වතුරේ ගිලෙන එකනෙ. හොරකම් කරලා ඇවිල්ලා හැමදාම උදේට නාන්නයි තියෙන්නෙ, පව් ටික ඉවරයි. සල්ලාලකමේ ගිහින් ඇවිල්ලා උදේට නාගන්න තියෙන්නෙ, පව් ප්‍රශ්නෙ ඉවරයි. ඒකනෙ කරන්න තියෙන්නෙ, ඔබ කරපු පව් හෝදන්න මේ ගංගා වලට පුලුවන් නම් බමුණ, ඔබ කරපු පිනුත් මේ ගංගා වලින් හෝදලා දමාවිනෙ. එතකොට හරි වැඩේ වෙන්නෙ දැන් ඔබ පින් වලින්ද බැහැර වුන කෙනෙක්. කියනවා බමුණ, ඔබේ පාපකර්ම ටික මේ ගංගා වතුරට හෝදලා දාන්න පුලුවන් නම් ගඟේ වතුරට කුණු හේදෙනවා වගේ පාපකර්ම ටික මේ ගඟේ හෝදලා දාන්න පුලුවන් නම් බලාගෙන කිව්වා, පින් ටිකත් හේදිලා යයි. ඒ වතුරට පින් ටිකත් හේදිලා පිනුත් නැතිව යයි එහෙම කිව්වා. බ්‍රාහ්මණය ඔබ පව් වලට ඇති බිය නිසානෙ මේ හැමදාම වතුරට බහින්නෙ. බ්‍රාහ්මණය, ඔබ වතුරේ බහින්න ඕන නෑ, ඔබ පව් නොකර ඉන්න. හරි ලස්සනයි, මේ සීතල වතුරේ ගිලි ගිලී අනේ ඔබේ සමට පීඩා දෙන්න එපා. ඉවසාගන්න බැරි සීතලක ගිලි ගිලී ඔබේ හමට පීඩා දෙන්න එපා. ඔබ පව් වලට අකැමති නම් පාප කර්මයට භය නම් පව් නොකර ඉන්නකො කිව්වා. හරි ලස්සනයි ඒ කීම. ඔබ යමකට බය නම් ඒ භය උපද්දන දේ කරන්න එපා. පාපකර්මයේ විපාකයට බය නම් පාපකර්මය හේතුවෙන් නිරයේ යනවා කියලා හිතට බය නම් නිරයේ යන්න හේතුවෙන පාපකර්මය කරන්න එපා. මේ කරලා ඒක ශුද්ධ කරගන්නේ කොහොමද කියන කම නෙවෙයි සෙවිය යුත්තේ, පාපකර්මය කරන්න එපා. දාසී මේ කතාව කියනකොට උඩඟු කමක් නැති අර බමුණා හොඳට සවන් යොමාගෙන අහන් හිටියා. ඒ බමුණාගේ හිතට හරි සතුටක් ඇතිවුනා. මේ දාසිකෙල්ල වුනත් කියන්නෙ ඇත්ත. දාසි වුනත් කිව්වෙ ඇත්ත. එතකොට මේ බමුණා කියන්නෙ බ්‍රාහ්මණ කුලයේ ඉපදිලා වේදය හොඳට ඉගෙන ගෙන උගත් භාවයට පත්වෙලා ඒ වේදයේ තියෙන විදියටම කටයුතු කර කර හිටියත් නුවණ තිබුනු පුද්ගලයෙක්. නුවණ තිබ්බ තැනැත්තෙක්. හැන්දක් නෙවෙයි දිවක්. බුදුරජාණන්

වහන්සේ දේශනා කලානෙ මේ ලොකෙ ඉන්නවා කිව්වා හැන්ද වගේ පුද්ගලයෙක්, ඒ හැන්ද වගේ පුද්ගලයා ගැන භාග්‍යවතුන් වහන්සේ වදාළේ කෙනෙක් බොහෝ කාලයක් නුවණැත්තෙක්ව ඇසුරු කරගෙන හිටියත්, ඒ කෙනා මෝඩ නම් නුවණැත්තෙක්ගේ සද්ධර්මය එයා ගොඩාක් කල් ඇහුවත් එයාට ගන්න බෑ. හරියට දීර්ඝ කාලයක් හොද්දේම හැන්ද දාලා තිබුනත් හැන්දට රහ තේරෙන් නෑ. හැබැයි බුදුරජාණන් වහන්සේ දේශනා කලා මොහොත්තං පිචේ විඤ්ඤු පණ්ඩිතෙ පයුරුපාසති - එක මෙහොතක් වෙන්න පුලුවන් නුවණැත්තෙක් තවත් නුවණැත්තෙක්වම ඇසුරු කරන්නෙ. කිප්පං ධම්මං විජානාති ජිව්හා සූපරසො යතා - වහා ධර්මය ඔහු වටහා ගන්නේ හරියට හොද්දේ රස සැණෙකින් හඳුනාගන්නා දිවක් සේය. දිවක් වගේ පුද්ගලයො මේ ලෝකෙ ඉන්නවා. මේ බමුණා ගැන කල්පනා කරනකොට තේරෙනවා ඔහු නම් දිවක් වගේ කෙනෙක්. දාසි වුනත් කියපු වචනෙ මොකක්ද කියලා හොඳට අහගෙන හිටියා. මේක හරි වැදගත් එකක්. කියන්නෙ මොකක්ද කියලා හරියට අහගෙන හිඳීම. කියන දේ අර්ථය මොකක්ද කියලා හරියට අසාගෙන හිඳීම. කිව්වේ කවුද කියන එක නෙවෙයි ඔහු හෙව්වෙ. කියන එකේ අදහස  මොකක්ද, ඒකෙ අර්ථය මොකක්ද, ඒකෙන් මගපෙන්වන්නේ කොතෙන්ටද, ඒකෙන් ජීවිතයට යහපතක් උදාවෙනවාද, අන්න ඒක බමුණා හෙව්වා. ඒ උදෙසා අහගෙන හිටියා, ඇය කියන කතා අර්ථ රසයෙන් වැහෙනවා, ඇය කියන කතා ජීවිතයට අවබෝධය ලබාදෙනවා. බමුණාගෙ හිත පැහැදුනා. බමුණා කියනවා පින්වතී, ඇත්තෙන්ම මම හිටියේ නොමඟට වැටිලා නොවැ. මේ වතුර නෑමෙන් මාව නිදහස් කරගෙන ආර්ය මාර්ගයට පැමිණෙව්වේ ඔබයි. ආර්ය මාර්ගය කියලා කියන්නෙ එතකොට මොකක්ද, උතුම් මාර්ගය. හරි මාර්ගය, නිවැරදි මාර්ගයට මාව පැමිණෙව්වෙ ඔබ. ඒ කියන්නෙ ඒ සැණින්ම වැරැද්දෙන් නිදහස් වුනා. ඒ සැණෙකින්ම මේ වැරැද්ද අතහැරියා. වැරැද්ද වැරැද්ද කියලා යම් මොහොතක දැනගත්තාද, දැනගත්ත සැණින් බමුණා අතහැරියානෙ. මේ කතාව ඉවරවෙනකොටම ඔහු කියනවා පින්වතී මේ වතුර නෑම කියන මෝඩ වැඩෙන් මාව නිදහස් කරගත්තෙ ඔබ. මාව නිදහස් කරගත්තා කියන්නෙ වතුරෙන් ගොඩට ඇදලා ගත්තා කියන එක නෙවෙයි, ඔහුගේ තිබුනු වැරදි අදහස දුරු කලා. මේ වැරැද්දෙන් මාව නිදහස් කලේ ඔබ. මාව හරි මාර්ගයට පැමිණෙව්වෙ ඔබ. ඒ නිසා පින්වතී මං ඔබට මේ සළුපට දෙනවා. දාසියකට උසස් බ්‍රාහ්මණ කුලයේ බමුණෙකුගෙන් සළුපටක් කියලා කියන්නෙ ඒ කාලෙ හැටියට වටිනා තෑග්ගක්. ලේසියෙන් ලැබෙන් නැති

එකක්. සාමාන්‍යයෙන් අඩුකුලේ අයට උසස් කුලයේ අය තෑගි දෙන් නෑ. දැන් මේ උසස් කුලයේ බමුණා, බ්‍රාහ්මණ කියන්නෙ උසස්ම කුලයනෙ වර්ණභේදය තුළ. බ්‍රාහ්මණ, ක්ෂත්‍රිය, වෛශ්‍ය, ශුද්‍රනෙ. දාසිය කියලා කියන්නෙ ශුද්‍ර. ඉහළ කුලයේ බ්‍රාහ්මණයා මේ දාසියක්ව දැක්කොත් එහෙම ඒ දැක්ක වෙලාවේම කාරලා කෙළ ගහන ජාතියේ අය බමුණෝ. කුෂුද්‍රයෙක්ව දැක්කොත් එහෙම ඇස් හෝදගන්නවා. ක්ෂුද්‍රයෙක්ව දැක්කොත් එහෙම ඇස් හෝදගන්නවා, ඔය ජාතක ධර්මයේ තියෙනවා එක අවස්ථාවක එක බමුණෙක් වැරදීමකින් නොදැනුවත් කමක් නිසා ශුද්‍රයෙකුගේ බත්මුලක් කනවා. ශුද්‍රයෙක්ගේ හීනකුලීනයෙක්ගේ බත්මුලක් කනවා බඩගින්නට, බමුණෙක්. කාලා ඉවරවුනාට පස්සෙ තමයි දැනගත්තෙ මං මේ කාල තියනේනෙ ශුද්‍රයෙක්ගේ බතක් කියලා. බඩ කපාගත්තා කියනවා. එහෙමයි දෘෂ්ටි. එහෙම දෘෂ්ටි තිබ්බ එකේ ඒ සමාජ තලයේ මේ බමුණාගේ හිත කොච්චර පැහැදුනාද පුන්නා ගැන. ඔහු කියනවා පුන්නා මාගේ මේ උතුම් සලුපට මං ඔබට තෑග්ගක් විදියට දෙනවා. එතකොට පුන්නාගේ තිබුනු විශාරද භාවය පුන්නා කියනවා, බ්‍රාහ්මණ ඔය සළුපටින් මට වැඩක් නෑ, ඔය සළුපට ඔබ තියාගන්න. මං කැමැති නෑ ඔබේ සළුපට ගන්න. ඉතින් ඔබ දුකට බය නම්, සචෙ භායසී දුක්ඛස්ස - ඔබ දුකට බය නම්, සචේ තෙ දුක්ඛ මප්පියං - ඇත්තටම බ්‍රාහ්මණ ඔබ දුකට අකමැති නම්, මාකාසි පාපකං කම්මං අවිවායදිවා රහො - රහසේවත් එළිපිටවත් පව් නම් කරන්න එපා. උසස් කුලයේ මනුස්සයෙක්ගෙන් සළුපටක් කියන තෑග්ග ලැබෙනකොට ඒක ඇය ප්‍රතික්ෂේප කලා. ප්‍රතික්ෂේප කොට ඈ තවත් උතුම් අවවාදයක් දුන්නා. සචේ භායසි දුක්ඛස්ස - ඇත්තෙන්ම ඔබ දුකට බය නම්, සචෙ දුක්ඛ මප්පියං - ඇත්තටම ඔබ දුක පිළිකුල් කරන කෙනෙක් නම්, මා කත්ත පාපකං කම්මං අවිවා යදිවා රහො, තමන්ගේ ජීවිතේ එළිපිටවත්, රහසේ වත් පාපකර්ම නම් කරගන්න එපා. දුකට බය කෙනා, දුක පිළිකුල් කරන කෙනා වැළකිය යුත්තේ පාපයෙනුයි, පව් කරන්න එපා. සචේච පාපකං කම්මං කරෙස්සසී කරොසිවා - බමුණ ඔබ අනාගතයේ පව් කරනවා නම් දැන් වුනත් ඔබ පව් කරමින්ම නම් ඉන්නෙ, න තෙ දුක්ඛා පමුත්තෙයයත්ති උපෙච්චාපි පලායතො - කොයිතරම් දැනගෙන පැනලා යන්න හැදුවත් ඒ දුක් විපාක වලින් නම් ඔබට නිදහස් වෙන්න පුලුවන් කමක් නෑ. ඔබ දැනුත් පව් කර කර නම් ඉන්නෙ, අනාගතෙත් ඔබ පව් කරන්න බලාපොරොත්තු වෙනවා නම් ඔබට කොච්චර දුකට අකැමැති වුනත් ඔබ කොච්චර දුක පිළිකුල් කලත් ඔබට දුකෙන් පලායන්න බෑ. ඒ කරපු පාපකර්මයේ විපාකය තමන්ගේ පස්සේ එනවා.

හරියට කරත්තෙ බැන්ද ගොනාගේ පසුපසින් කරත්ත රෝද හැමතිස්සේම එනවා වගේ. කරත්තයක ගොනෙක් බැන්දට පස්සෙ ආශාවෙන් ගොන්නු එන්නෙ නෑ පින්වතුනේ, අා මාව කරත්තෙ බඳින්න, කරත්තෙ නැතිව මට ඉන්න බෑ කියලා ගොන්නු එන් නෑ, ඒ ගොනාව බලෙන් අල්ලගෙන කරත්තෙ බඳින්නෙ ගොනා හිතින් අකැමැත්තෙන් ඉඳිද්දිමයි. කරත්තෙ බැන්දට පස්සෙ ඒ ගොනාට හැමතිස්සෙම බරක් තියෙනවා. ඒ ගොනාගේ නිදහස සම්පූර්ණයෙන්ම ඇහිරෙනවා. ඌ කොච්චර අකැමැති වුනත් ඌ තබන පියවරක් පියවරක් පාසා කරත්තේ බරත් අරගෙන යන්න සිද්ධ වෙනවා. පාප කර්ම සිද්ධ වුනොත් එහෙම ඒ පාපකර්මයේ විපාක පස්සෙන් එන්නෙත් ගොනාගේ පස්සෙ රෝද එනවා වගේ, නඅන්තලික්ඛෙ - අහසේ තැනක බේරෙන්න පුලුවන් කමක් නෑ. න සමුද්ද මජ්ජෙ - මහසයුර මැද යම් ඒ අද්භූත දූපතක නිදහස් වෙන්න පුලුවන්කමක් නෑ. න විජ්ජති සො ජගති පදේසො - මේ ලෝකෙ එහෙම තැනක් පිහිටලා නෑ. යත්ථට්ඨිතෝ මුච්ඡෙයා පාපකම්මං - යම් ඒ පාපකර්මයක් සිද්ධ වුනා නම් ඒ පාපකර්මයෙන් ගැලවිලා නිදහස් වෙන්න පුලුවන් තැනක් මේ ලෝකෙ නෑ. ඇත්තටම කෙනෙක් පාපකර්ම වලට බය නම් පවේ විපාකයට බය නම් ඒ කෙනා කල යුත්තේ එළිපිටවත් රහසේවත් පව්නොකර හිඳීමයි. සචේ භායසි දුක්ඛස්ස සචේ දුක්ඛ මප්පියං - ඉදින් බමුණ ඔබ දුකට බය කෙනෙක් නම්, දුකට අකැමැති කෙනෙක් නම්, උපෙහි සරණං බුද්ධං ධම්මං සංඝං ච තාදිනං - අකම්පිත සිත් ඇති බුදුරජාණන් වහන්සේව සරණ යන්න. ඔබ දුකට බය නම් ඔබ දුක පිළිකුල් කරන කෙනෙක් නම් අකම්පිත සිත් ඇති බුදුරජුන්ව සරණ යන්න. ඒ බුදුරජාණන් වහන්සේ ජීවිතේ සැපය උදෙසා දේශනා කොට වදාළ නිමල පාරිශුද්ධ සද්ධර්මය සරණ යන්න. ඒ බුදුරජාණන් වහන්සේගෙ සද්ධර්මය අනුගමනය කරන පරම පූජනීය සඟරුවන ඔබත් සරණ යන්න. සමාධියාහි සීලාමි තන්තෙ රත්තාය හේහිතේ - ඔබ හොඳට සිල් සමාදන් වෙන්න. හොඳට සීලවන්ත වෙන්න. ඒ සීලවන්ත වීම බමුණ ඔබට බොහෝ කල් යහපත පිණිස පවතීවි. අන්න එහෙම තමයි පුන්නා ඔහුට බණ කිව්වෙ. දාසියක් බුදුබණ කියපු හැටි. දාසියක් වුනත් ඇය බුදුරදුන්ගේ ශ්‍රාවක දුවක්. ඒ ශ්‍රාවක දූ බුදුරජාණන් වහන්සේගේ ධර්මය අර බමුණාට කිව්වා. බමුණා හරි සතුටු වුනා. බමුණා කියනවා පින්වතී, අකම්පිත සිත් ඇති බුදුරජාණන් වහන්සේව මාත් සරණ යනවා. ඒ බුදුරජාණන් වහන්සේ දේශනා කොට වදාළ සත්‍ය වූ සද්ධර්මය මාත් සරණ යනවා. ඒ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක සඟරුවන මාත් සරණ යනවා. පින්වතී මාත් සිල් සමාදන් වෙනවා. මට ඒක ගොඩාක් කල් යහපත

පිණිස පවතීමයි. ඔහු එහෙම කිව්වා. එහෙම කියලා ඔහු කෙලින්ම හැරුනා. යම් දිශාවක ඒ මහා කාරුණිකයානෝ වැඩ සිටිනා සේක්ද, ඒ බුදුරජාණන් වහන්සේ හොයාගෙන ගියා. භාග්‍යවතුන් වහන්සේගේ සම්මුඛයේ බුදුරජාණන් වහන්සේගේ සරණ ලබාගෙන පැවිද්ද උපසම්පදාව ලැබුවා. නොබෝ කලකින්ම ඒ බමුණා භික්ෂුවක් බවට පත්වෙලා නොබෝ කලකින්ම උතුම් මහරහතන් වහන්සේ නමක් බවට පත්වෙනවා. ඒ රහතන් වහන්සේ අර්හත්වයෙන් පස්සෙ මෙහෙම ගාථාවක් කියනවා. බ්‍රහ්ම බන්ධො පුරෙයාසිං අජම්හි සච්ච බ්‍රාහ්මණො තේවිජ්ජො වේද සම්පන්නො සොත්ථියො තම්හි මහාතකොති - මම බ්‍රාහ්මණ කුලයේ ඉපදුනු නිසා මට කිව්වෙ බ්‍රහ්ම බන්ධුක කියලා. නමුත් මං ඇත්තටම බ්‍රාහ්මණයෙක් වුනේ දැනුයි. මාත් ත්‍රිවිද්‍යාව ලබාගත්තා, නිවනට පත්වුනා. යහපතට පත්වුනා. ධර්මය තුළින් සියලු කෙලෙස් සෝදලා දැම්මා. ඔන්න ඔය විදියට පුන්නා නිසා බ්‍රාහ්මණයා සැපයට පත්වුනා, අමා නිවන් සැපයට පත්වෙලා රහතන් වහන්සේ නමක් බවට පත්වුනා. මේ ප්‍රවෘත්තිය හැමතැනම පැතිරිලා ගියා. ඔය සැවැත්නුවර හැමදෙනාම දැනගත්තා පුන්නා මෙහෙම දෙයක් කරලා. පුන්නාව සොත්ථිය බමුණාට බණ පද කියලා ඒ බණ පදයට පැහැදිලා තමයි ඔය සොත්ථිය බමුණා  බුද්ධ ශාසනයේ මහණ වුනේ. ඔහු අවසානයේ පරම ශාන්තියට පත්වුනාලු කියලා දැන් මේ කතාව හැමතැනම පැතිරිලා ගියා. ඒ පැතිරිලා යන කතාව අනේපිඬු සිටුතුමාටත් අහන්න ලැබෙනවා. මේක හරි ලස්සන කතාවක්. ඒ කියන්නෙ පුන්නා මේ දේ කරලා අනේපිඬු සිටුතුමා ගාවට ඇවිල්ලා මහාලොකුවට කිව්වෙ නෑ, සිටුතුමනි අද දන්නවාද දිය ගේන්න ගියාට පස්සෙ මං මෙහෙම කිව්වා. මං මෙහෙම කියලා අර බමුණාව පැරැද්දුවා කියලා එහෙම කතාවක් නෑ. ඇය යම් විදියකින් ඒ බමුණාට යහපත සැලසුවාද ඒ යහපත ඒ බමුණා සලසාගත්තාද, ඒක එතනින් ඉවරයි. අනේපිඬු සිටුතුමා මේ කාරණය දැනගෙන පුන්නා ගෙන්නවලා අහනවා, කෙල්ලෙ ඇත්තද උඹ ඒ බමුණාට මහා යහපතක් හදලා දුන්නාද? ඔව් මහ සිටුතුමනි, මම ඔහුට බුදුරජාණන් වහන්සේගේ ධර්මය කියාදුන්නා. ඔහු නුවණැතියි, ඔහුට ඒ ධර්මය තේරුනා, ඔහු බුද්ධ ශාසනයේ පැවිදි වෙලා ඒ ධර්මය අවබෝධ කරගත්තා. සිටුතුමාට හරි සන්තෝෂයි. සිටුතුමා කිව්වා කෙල්ලෙ අදින් පස්සෙ උඹ මේ නිවසේ දාසි නොවෙයි, උඹ සියලු දාස භාවයෙන් නිදහස්, උඹ මේ නිවසේ මගේම දුවක් කිව්වා. ඔන්න පුන්නා අනේපිඬු සිටුතුමාගේ නිවසේ දියණියක් බවට පත්වුනා. දැන් දුව පත්වුනාට පස්සෙ ඇයටත් වෙනදාට වඩා හොඳට බණ අහන්න පුලුවන්. වෙනදාට වඩා හොඳට

ධර්මයේ හැසිරෙන්න පුලුවන්. ටික ටික එහෙම ධර්මයේ හැසිරෙනකොට ඇයට හිතක් උපන්නා මාත් මේ බුද්ධ ශාසනේ පැවිදි වෙන්න ඕන. තමන්ගේ මෑණියන්ගෙන් අවසරය අරගෙන, මහසිටුතුමාගෙන් අවසරය අරගෙන ඇය පැවිදි වුනා. නොබෝ කලකින්ම බුද්ධ ශාසනයේ අමා නිවන පසක් කරගත්ත අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. පුන්නා මහරහත් තෙරණී. ඒ පුන්නා මහරහත් තෙරණින් වහන්සේ අර්හත්වයට පත්වුනාට පස්සෙ තමන් වහන්සේ ඒ තවත් බමුණෙකුට යහපත හදපු හැටි මේ ථෙරීගාථා වලදි කියාදුන්නා. ඒ නිසා තමයි අපිට මේ කතාව අහන්න ලැබුනේ. ඒ නිසා පින්වතුනේ මේ ජීවිතය ගැන කල්පනා කරනකොට අපිට හරී සන්තෝෂ වෙන්න පුලුවන්, අපි මේ ඉපදිලා ඉන්න රට දියුණු වෙමින් පවතින් රටක්, අපි ගොඩාක් ධනවත් නෙවෙයි. හැබැයි මේ අපි උපන්න රටේ නුවණැත්තන්ව ලෝකයට බිහි කරන ලොව්තුරා භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ වදාළ සද්ධර්මය ඇහෙනවා. නුවණැත්තන්ව ලෝකයට බිහි කරන අමෘත ධර්මය මේ ලංකා භූමියේ රැව් දෙනවා. ඒ ධර්මය විකෘති කරන්නෙ නැතිව කියාදෙන සත්පුරුෂයො මේ ලංකාභූමියේ ඉන්නවා. ඒ දහම් අමාව සවන්පත් වලින් අහන්න ලැබෙන මේ ලංකා භූමියේ ඒ ධර්මය ඇහි ඇහී ඉන්න ලැබීම ලාභයක්මයි. මං ඒකයි කිව්වෙ නුවණැත්තෙක් ළඟ දාසකම් කලත් කමක් නෑ. නුවණැත්තො ඉන්න තැනක දුගී දුප්පත් වෙලා උපන්නත් කමක් නෑ. නුවණැත්තො ඉන්න තැනක ඒ නුවණැත්තනට බැලමෙහෙවර කරගෙන ඉන්න කෙනෙක් බවට පත්වුන්ත කමක් නෑ, අපි මීට පෙර මේ ථෙරීගාථා වලදී ඉගෙන ගත්තා පටාචාරා උත්තමාවිය ළඟ පැවිදි වුනා, ඇගේ මේ අසපුවේ ඇගේ මෙහෙණවරේ දානෙ ටිකක් අනුභව කරලා ඉන්න ආසාවේ එක හිඟන්නියක් මහණ වුනා. ඒ හිඟන්නියත් මහරහත් උත්තමාවියක් බවට පත්වුනා. ඒ නිසා මේකෙ ගොඩාක්ම වටින දේ ඇසුර කරන්නෙ කාවද කියන එක. ඇසුරු කරන්නෙ සත්පුරුෂයෙක් නම් ඇසුරු කරන්නෙ නුවණැත්තෙක් නම්, ඇසුරු කරන්නෙ ගුණසම්පන්න උත්තමයෙක් නම් ඒ කෙනාගේ ජීවිතේ දියුණුව කරා යනවාමයි. ඒ කෙනාගේ ජීවිතේ දියුණුව කරා ඇදෙනවාමයි. හරියට සුදුහඳුන් ලීයක් යම් වස්ත්‍රයකින් ඔතලා තිබුනොත් සුදුහඳුන් කුඩු ටිකක් යම් වස්ත්‍රයකින් ඔතලා තිබුනොත් ඒ වස්ත්‍රයෙනුත් සුදුහඳුන් සුවඳ හමන්න පටන් ගන්නවා. අන්න ඒවගේමයි. නුවණැත්තෙක් ඇසුරු කරන කෙනාගේ ජීවිතය නුවණැති භාවයට පත්වෙනවා. ගුණවන්තයෙක් ඇසුරු කරන කෙනාගේ ජීවිතය ගුණවත් භාවයට පත්වෙනවා. සත්පුරුෂයෙක් ඇසුරු කරන කෙනාගේ ජීවිතෙත් සත්පුරුෂ භාවයට

පත්වෙනවා. ඒ නිසා පින්වතුනේ අපේ ජීවිතයේ අපිට මේ මුණගැහිච්ච ලාභය අපි හොඳට තේරුම් අරගන්න ඕන. ඒ ලාභය තේරුම් නොගත්තු බොහෝ දෙනෙක් තමයි මේ ලංකා භූමියේ තෙරුවන් සරණත් තියෙද්දි එක එක ඒවගේ පටලැවිලා ඉන්නෙ. නැකතේ පටලැවිලා, කේන්දරේ පටලැවිලා, ග්‍රහ අපලයේ පටලැවිලා, නොයෙක් දේවල් වල පටලැවිලා මුලා වෙලා ඉන්නෙ මේ සත්‍ය වූ ධර්මය නොතේරීම නිසා. අපි අපේ ජීවිතේට වාසනාවක් උදාකරගන්න ඕන, භාග්‍යයක් උදාකරගන්න ඕන, මේ සත්‍යය අපේ ජීවිතයට ගලපා ගැනීම පිණිස. බුදුරජාණන් වහන්සේගේ නිර්මල සද්ධර්මය පවතින තෙරුවන් සරණ පවතින මේ ලංකා භූමියේ උපන්න ඔබ සචෙ වභායසි දුක්ඛස්ස - ඇත්තෙන්ම ජීවිතේ දුක් විඳින්න බය නම්, සචෙ දුක්ඛමප්පියං - ඔබත් ජීවිතේ දුක පිළිකුල් කරන කෙනෙක් නම්, සැප විඳින්න කැමැති කෙනෙක් නම්, ඔබත් බුදුරජාණන් වහන්සේවමයි සරණ යා යුත්තේ. ධර්මයමයි සරණ යා යුත්තේ, ශ්‍රාවක මහාසඟරුවනමයි සරණ යා යුත්තේ. බුදුරජාණන් වහන්සේ නමකගේ උතුම් බුද්ධ ශාසනයේ සීලයේමයි හික්මිය යුත්තේ, සමාධියමයි හික්මිය යුත්තේ, ප්‍රඥාවේමයි හික්මිය යුත්තෙ, බුදුරජාණන් වහන්සේග් ශ්‍රාවක භාවයට පත්වෙලා ජීවිතේ මොහොතක් මොහොතක් පාසා පිනමයි කරගත යුත්තෙ, කුසලයමයි කරගත යුත්තේ, එයමයි යහපත, ඉතින් ඒ යහපත සලසාගන්න අධිෂ්ඨාන කරන්න. පුන්නා රහත් උත්තමාවියගේ ඒ උතුම් ථෙරීගාථා අපි ශ්‍රවණය කලා. ඒ පුන්නා නම් වූ මහරහත් උත්තමාවියට නමස්කාර කරමින්, වන්දනා කරමින් අපි අධිෂ්ඨාන කරමු අපිටත් මේ බුදුසරණ, දහම්සරණ, සඟසරණ ලැබිච්ච මේ දුර්ලභ මනුස්ස ජීවිතේ ඒ සරණේ ආශිර්වාදය සලසාගෙන සුවසේම පින් පුරාගෙන, සුවසේම ගුණදහම් දියුණුකරගෙන ගෞතම ශාසන තුළ රහතන් වහන්සේලා සැනසුනු නිවනේ රහත් තෙරණිවරු සැනසුනු නිවනේ අපිටත් සැනසෙන්න ලැබේවා, සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයෝ සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරුන්, සෙන්පති දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවියෝ සතුටු සිතින් අනුමෝදන් වෙත්වා. අප හැමදෙනාගේ ඉෂ්ටකාමී දෙවියෝ පින් අනුමෝදන් වෙත්වා. මේ ලංකා ධරණී තලය සුරකින සුමන සමන් දෙව් රජු ප්‍රධාන සියලු දෙවියෝ පින් අනුමෝදන් වෙත්වා. දෙවියෝ දිව්‍ය සැපයෙන් වැඩෙත්වා, දිව්‍ය ආශ්චර්‍යයෙන් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ රැකවරණ අප හැමදෙනාට දෙවියෝ නොඅඩුවම සලසාදෙත්වා. දෙවියෝද සසර දුකින් අතමිදෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කරගන්නට යෙදුනා වූ උදාරතර පුණ්‍ය ධර්මයන් ගුරුදේවෝත්තම

කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. අපගේ ගුරු දේවයන් වහන්සේ නිදුක්ව, නිරෝගීව දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. මේ ගෞතම ශාසනය තුළම උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!! රැස්කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද දවසේ ධර්ම දානමය පින්කම සිදු කරන ඒ පින්වත් සුනෙත් සංජීව වීරතුංග මහත්මාගේ නමින් මියපරලොව යන්න යෙදුනු පින්වත් සමතපාල වීරතුංග පියාණන්ට, ඩී.එම්. අමරතුංග සීයාට, ඩී.එම්. තිලකරත්න මාමාට මේ සියලූම පින් අනුමෝදන් වෙත්වා. මනීෂා රත්නායක මහත්මියගේ නමින් මියපරලොව යන්නට යෙදුනු ජෝෂප් රත්නායක පියාණන්ට, පර්ල් පියදාස ආච්චි අම්මාට, ඩබ්ලිව්. පියදාස සීයාට, අනුර ජයන්ත මාමාට සහ දිල්රුක්ෂි ප්‍රියන්ති ලොකුඅම්මාට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන්ව ඒ නමින් මියගියා වූ සියලූ ඥාතීන්ගෙ පරලොව ජීවිත ඒකාන්ත වශයෙන්ම සැපයට පත්වෙත්වා. අනන්ත සසර පුරාවට තමන්ගේ නමින් මිය ගිය සියලු ඥාතීන්ට සංසාර දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනා සිදු කරන්න. සුනෙත් සංජීවන වීරතුංග මහත්මාගේ සුජීවත්ව සිටින ආදරණීය මෑණියන් වන පද්මාවතී දිසානායක මෑණියන්ටත්, කේ.එම්. බණ්ඩාර මැණිකේ ආච්චි අම්මාටත් මේ සියලු පින්වල ආශිර්වාදයෙන් නිදුක් නිරෝග සුව සැලසේවා, දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. මනීෂා රත්නායක මහත්මියගේ සුජීවත්ව සිටින ආදරණීය මෑණියන් වන උදිතා සරෝජිනී රත්නායක මෑණියන්ට මේ සියලු පින් අනුමෝදන් වෙලා නිදුක් නිරෝග සුව සැලසේවා. දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සුනෙත් සංජීවන වීරතුංග මහත්මාගේ සහ මනීෂා රත්නායක මහත්මියගේ අවුරුදු හතරක් වයසැති තිනුනි රෙහංසා වීරතුංග ආදරණීය දියණියට මේ සියලූම පුණ්‍ය ධර්මයෙන්ගේ ආශිර්වාදය, උතුම් බුද්ධ රත්නයේ ආශිර්වාදය, ධර්ම රත්නයේ ආශිර්වාදය, සංඝ රත්නයේ ආශිර්වාදය ඒ වගේම පින් පෙත් අනුමෝදන් වෙලා සතුටු වෙන සියලු දෙවිදේවතාවුන් වහන්සේලාගේ ආශිර්වාදය, රැකවරණය නොඅඩුවම ලැබෙත්වා. ඒ දියණියට බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක දුවක් බවට පත්වෙලා මේ ගෞතම ශාසනය තුළ සුවසේම පින් කරගන්න ලැබේවා. සුවසේම ගුණ දහම් දියුණු කරගන්න ලැබේවා. ජීවිතයට අයහපත උදාකරවන අසත්පුරුෂයො කිසිකලෙකත් ඇසුරු කරන්න ඒ දියණියගේ ජීවිතයට නොලැබේවා. උතුම් සත්පුරුෂ ඇසුරේම ජීවිතේ යහපත් කරගෙන දියුණු

කරගෙන බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක දුවක් විදියට සම්බුදු ශාසනයේ පිහිට ලබන්න වාසනාව ලැබෙත්වා කියලා අපි ආශිර්වාද කරනවා, සෙත් පතනවා. දිනූෂි ගම්ලත් නැගණියට සහ සුරංග බණ්ඩාර මල්ලීට මේ සියලු පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා. අද ධර්ම දානය සිදු කරන පින්වත් සුනෙත් සංජීවන වීරතුංග, මනීෂා රත්නායක යන ඒපින්වන්ත දෙපලටත් ධර්ම දානය සඳහා නොයෙක් අයුරින් දායක වූ සියලු දෙනාටත් ඒ හැමගේ පවුල් වල සියලු දෙනාට සියලු පින් අනුමෝදන් වෙලා ඒ පින්වතුන්ලා කරන කියන රැකී රක්ෂා ආදී කටයුතු දූදරු මුණුබුරු මිණිබිරියන්ගේ අධ්‍යාපන කටයුතු ආදි හැමදේ සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා. ජීවිතේට සියලු යහපත අභිවෘද්ධිය උදාවෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්මදාන සාමාජික පින්වතුන්ලා හැමදෙනාටත් සුපින්වත් ඔබ සැම සියලු දෙනාටත්, විශේෂයෙන්ම ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ සැමදෙනාටත් පින් අනුමෝදන්ව සියලු දෙනාට සියලු යහපත උදාවේවා. මේ ගෞතම ශාසනය තුළ සුවසේම ධර්මාවබෝධ කරන්නට ලැබෙත්වා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=6pA9g7HAce4

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මාගේ වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද දවසේ ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු 9.11 මේ උතුම් සද්ධර්ම දේශනාවෙන් අපි ඉගෙන ගන්නේ අපි

අහන්නේ චාපා නම් වූ අර්හත් තෙරණියගේ ගාථා. මේ බුදු සසුනේ ඒ අමා නිවන් සුවයේ සැනසුනු, චාපා තෙරණිය. ඒ චාපා තෙරණියගේ ගාථා කියලා කියන්නෙ හරිම සුන්දර සිදුවීමක්. හරිම ලස්සන කතාවක්. ඒ කතාවේ කියවෙන්නෙ චාපා සහ කලූගේ කතාව. කලූ කියලා කිව්වෙ චාපා තෙරණියගේ ගිහිකල ස්වාමිපුරුෂයා, ඇය ආදරේට කියපු නම කලූ. ඔහුගේ හැබෑ නම උපක. චාපා සහ උපකගේ කතාව. මේ ලස්සන ධර්ම දේශනාවට, මේ ලස්සන පුවතට, මේ පුවත ඔබට ශ්‍රවණය කරන්න ලැබෙන්නේ අද ධර්ම දානය සිදු කරන්නේ කුලියාපිටියේ පදිංචි පින්වත් ටී.එම්.ඩබ්ලිව්.එස්. තෙලිසිංහ මෙනෙවිය විසින්. එතුමිය ධර්ම දානය සිද්ධ කරන්නේ ප්‍රධාන අරමුණ විදියට පාඨශාලාචාර්ය පින්වත් ටී.එම්. සෝමතිලක තෙලිසිංහ මහත්මාගේ හැටනව වන ජන්ම දිනය වෙනුවෙන් එතුමාට නිදුක් නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සැලසේවා කියන ප්‍රාර්ථනාවත් තමන්ගේ සුජීවත්ව සිටින මෑණියන්ට නිදුක් නිරෝගී සුව දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා, ධර්මාවබෝධය පිණිස මේ පින් හේතුවේවා කියන අදහසත් මූලික කරගෙන. චාපා තෙරණිය කියලා කියන්නෙ මේ බුද්ධ ශාසනයේ හරිම අසිරිමත් පුවතක් තියෙන උත්තමාවියක්. ඒ උත්තමාවිය ගෞතම සසුනේ පැවිදි වෙලා අර්හත්වයට පත්වුනාට පස්සෙ තමයි මේ ලස්සන පුවත ඇය දේශනා කලේ. චාපා කියලා කියන්නෙ බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළ වෙච්චි සමයේ වංගහාර කියපු වැදි ගමේ වැදි නායකයාගේ දුව. ඒ කාලෙ තිබුනා වංගහාර කියලා වැදිගම්මානයක්. ඒ ගම්මානයේ හිටපු වැදි නායකයාගේ දූ තමයි චාපා. මේ වැදි නායකයාගේ දුව චාපා බුදුසරණ ලබාගෙන සසරිනුත් නිදහස් වුනා. මේ වැදි දියණියට කොහොමද බුදුසරණ ලැබුනෙ. ඒ බුදුසරණ ලැබෙන්න හේතු වුනේ ඇගේ ස්වාමිපුරුෂයා, ඒ ස්වාමිපුරුෂයාගේ නම උපක. මොකක්ද පින්වතුනි උපකගේ කතාව, උපක කියන්නෙ කවුද? උපක කියලා කියන්නෙ ආජීවක තවුසෙක්. මේ උපකගේ පුවත අහන්න අද සුදුසුම දවසක්. අපේ භාග්‍යවත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ශ්‍රී සම්බුද්ධත්වය සාක්ෂාත් කොට ඒ අවබෝධ කරපු ධර්මය ප්‍රථම ධර්ම දේශනාව ලෙස දේශනා කලේ ඇසල පුර පසළොස්වක පුන් පොහෝ දිනයේ. ඒ පුන් පොහෝ දිනය සමීපයේම යෙදෙද්දී අපි මේ උපකගේ සිද්ධිය අහන්නෙ. ශ්‍රී සම්බුද්ධත්වය සාක්ෂාත් කරපු බුදුරජාණන් වහන්සේ ගයාවේ බෝමැඩ ඇසුරු කරගෙන සත්සතියක් ගත කරලා බුදුරජාණන් වහන්සේ දහම් දෙසීම පිණිස බරණැසට වැඩම කලා. ඇයි බරණැසට භාග්‍යවතුන් වහන්සේ වැඩම කරන්න හේතුව, ප්‍රථම ධර්ම දේශනාව ඇසීම පිණිස සුදුසු පිරිස, ඒ

සඳහා පින් පිරූ පිරිස, ඒ වෙනකොට හිටියේ බරණැස. පස්වක භික්ෂූන් වහන්සේලා. ඒ පස්වග භික්ෂූන් වහන්සේලා සමීපයට බුදුරජාණන් වහන්සේ පා ගමනින්ම පිටත් වුනා. එහෙම වැඩම කරනකොට භාග්‍යවතුන් වහන්සේ ගයාවත් බරණැසත් අතර තැනකදී මේ උපක කියන ආජීවකයාට දකින්න ලැබුනා. මේ වෙනකොට බුදුරජාණන් වහන්සේ සම්බුදු වෙච්චි මුල්ම කාලෙ, තාම දම්සක ප්‍රවර්තනය කරලාවත් නෑ. උපක දකිනවා ඒ බුදුරජාණන් වහන්සේව. දැක්ක ගමන් උපකට ඇස් අදහාගන්න බැරිව ගියා, ඒ තියෙන සුන්දරත්වය, ඒ තියෙන සන්සිඳීම, ඒ තියෙන ශාන්තිය. උපකට හිතාගන්න බැරිව ගියා. උපකත් සැනසිල්ලක් හොයන කෙනෙක්. උපක ආජීවක තාපසයෙක් විදියට පැවිද්දට පත්වෙලා සැනසීමක් හොයන කෙනෙක්. නිවනක් හොයන කෙනෙක්. සුවයක් හොයන කෙනෙක්. බුදුරජාණන් වහන්සේ තුළ තිබුනු සුවය සැපය සැනසීම උපකට අදහාගන්න බැරිව ගියා. උපක බුදුරජාණන් වහන්සේගෙන් අහනවා, ආයුෂ්මත ඔබේ ඉඳුරන් හරීම ප්‍රසන්නයි. ඔබේ සමේ පැහැයත් හරී පිරිසිදුයි. ඔබේ සම බබළනවා. ඇත්තෙන්ම ආයුෂ්මත ඔබ කවුරුන් උදෙසා මහණ වෙච්චි කෙනෙක්ද, ඔබේ ශාස්තෲන් වහන්සේ කවුද, ඔබ කැමැති කොයි වගේ ධර්මයකටද, එතකොට අභිනවයෙන්ම සම්බුද්ධත්වයට පත්වෙච්චි ශාස්තෲන් වහන්සේ. මේ වෙනතුරුත් උතුම් ශ්‍රී සද්ධර්මය දේශනා නොකළ ශාස්තෲන් වහන්සේ. උපකට තමන් වහන්සේව හඳුන්වලා දුන්නා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, සබ්බාභිභූ සබ්බ විදූ හමස්මි සබ්බේ සුධම්මේසු අනූපලිත්තො සබ්බඤ්ඤහො තණ්හක්කයේ විමුත්තො සයං අභිඤ්ඤාය කමුද්දි සෙයයං - උපක මම සියලු අකුසල් මැඩලූ කෙනෙක්. මම සියලු දෙයම අවබෝධ කල කෙනෙක්. මං හැමදේකටම නොඇලුනු කෙනෙක්. සෑම ක්ලේශයක්ම අත්හල කෙනෙක්. තණ්හාව ක්ෂය වීමෙන් ලත් විමුක්තියට පත්වූ කෙනෙක්. මං තුළ ඇතිවුනු අවබෝධ ඥාණය මේ සියල්ල දැනගත් මං කවර නම් ගුරුවරයෙක් සොයන්නද. න මේ ආචාරියො අත්ති සදිසො මේන විජ්ජති සදේවකස්මිං ලෝකස්මිං නත්ති මේ පටිපුග්ගලො - මට ගුරුවරයෙක් නෑ, මට සමාන වූ කිසිම කෙනෙකුත් නෑ. මේ දෙවියන් සහිත ලෝකයේ මට සමාන කිසිම කෙනෙක් සොයාගන්න නෑ. අහං හි අරහා ලෝකෙ අහං සත්ථා අනුත්තරෝ ඒකුම්හි සම්මා සම්බුද්ධො සීතිභූතස්මි නිබ්බුතො - මම වනාහි ලොවෙහි රහතන් වහන්සේ වෙමි. මම වනාහි අනුත්තර වූ ශාස්තෲවරයාණන් වෙමි. හුදෙකලාවේම තනිවම සම්මා සම්බුද්ධත්වයට පත්වූ මම තෘෂ්ණාව ක්ෂය වීම හේතුවෙන් සිහිල්ව පිරිනිවී ගිය කෙනෙක් වෙමි. මේ

වෙනකොට බුදුරජාණන් වහන්සේ විතරයි රහතන් වහන්සේ නමක් විදියට වැඩ හිටියේ. භාග්‍යවතුන් වහන්සේ තාම දහම් දෙසලා නෑ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ උපකට කියනවා මම මේ ලෝකයේ රහතන් වහන්සේ. මං අනුත්තර වූ ශාස්තෘවරයා. මම හුදෙකලාවේම සම්බුද්ධත්වය සාක්ෂාත් කලා. ධම්ම චක්කං පවත්තේතුං ගච්ඡාමි කාසිනං පුරං - චතුරාර්ය සත්‍යය ධර්මය නම් වූ උතුම් දහම් චක්‍රය කරකවාලන්නට මං මේ කසීරට බරණැසට යන ගමන්. අන්ධභූතස්මිං ලෝකස්මිං ආහංචිං අමතුං දුන්දුභිං - අවිද්‍යා අන්ධකාරයෙන් යුතු ලෝකය තුළ අමා බෙරය වයන්නටයි මම මේ වැඩම කරන්නෙ. බුදුරජාණන් වහන්සේ එහෙම කියනවා. එතකොට භාග්‍යවතුන් වහන්සේ මේ පැවසූ අදහස උපකට තේරුන් නෑ. හැබැයි උපක මෙහෙම ඇහුවා, යථා කො ත්වං ආවුසො පටිජානාසි අලහසි අනන්තජිනො ති? ඒ කිව්වෙ ආයුෂ්මත ඔබ ඔය කියන්නේ ඔබ කෙළවරටම දිනපු අනන්ත ජින කියලාද? ඔබ එහෙමද කියන්නෙ? මාදිසාවේ ජිනා හොන්ති යේ පත්තා ආසවක්ඛයං - ඇත්තෙන්ම උපක යම් කෙනෙක් ආශ්‍රවයන් ක්ෂය වීමකට පත්වුනා නම් මා බඳු ඔවුන් ඒකාන්තයෙන්ම ජින නම් වෙනවා, දිනුවා වෙනවා. ඒ දිනුවේ මොනවාද, කෙලෙස්. කෙලෙස් ආස්‍රව මොකුත් නැති කෙනාට දිනුවා කියලා කියන්න පුලුවන් කිව්වා. ඒ නිසා උපක මටත් අනන්තජින, කෙළවරටම දිනූ කෙනා කිව්වට කමක් නෑ. එතකොට උපක කියනවා, උපකට මේ මොකුත් වැටහුනේ නෑ. හැබැයි උපකගේ හිත පැහැදුනා. උපක කියනවා ඔව් ඉතින් එහෙමත් වෙන්න පුලුවන්. ඒ විදියටත් සිද්ධ වෙන්න පුලුවන් කියලා, ඔළුව හොල්ලලා උපක පිටත් වුනා. බුදුරජාණන් වහන්සේ සම්බුදු බවට පත්වෙලා දහම් දෙසන්නටත පෙර තමයි උපකට ඒ මහා කාරුණිකයන් වහන්සේව මුණ ගැහුනේ. එදා ඒ මහාකාරුණික බුදුරජාණන් වහන්සේ කියපු දේ තේරුම් ගන්න තරම් ඥාණයක් ඒ වෙලාවේ බලවත් ශ්‍රද්ධාවකට එන්න හැකියාවක් උපකට ඒ මොහොතේ තිබුන් නෑ, උපක ඉතින් ආ ඉතින් ඔබවහන්සේ කියන විදියත් වෙන්න පුලුවන් තමයි කියලා නික්මුණා. නික්මිලා උපක ආවෙ කොතෙන්ටද, වංගහාර ජනපදය ළඟ තිබුනු කැලේට. එහි තිබුනා ලෙනක්. ඒ ලෙන සූදානම් කරගෙන උපක තපස් කරන්න පටන් ගත්තා. ඊළඟ දවසේ උපක වැඩම කලා පිණ්ඩපාතෙ. දැන් මේ තරුණ වයසේ ඉන්න ආජීවක තාපසයා පිණ්ඩපාතෙ එනවා දකිනකොට වැදි ගම්මානයේ හිටපු ප්‍රධානියාට හිත සතුටු වුනා. ඔහු පැහැදුනා. පැහැදිලා උපක කියන තාපසතුමාට කියනවා, තාපසයින් වහන්ස, අදින් පස්සෙ ඔබවහන්සේ එහෙමෙහෙ ගාටන්න ඕන නෑ. දානෙ වෙලාව වෙද්දී ඔබ වහන්සෙ මගේ

නිවසටම වැඩම කරන්න ඕන. මං මගේ නිවසෙන් ඔබවහන්සේ වෙනුවෙන් හැමදාම බත්ගෙඩියක් දෙනවා කිව්වා. එතකොට ඔන්න උපකට දැන් දානෙ ලැබෙන්නෙ වැදි නායකයාගේ නිවසින්. හැබැයි මේ වැදි නායකයාගේ නිවසේ, වැදි රැහේ තිබුනා නීති රීති, වැදි රැහේ තිබුනා යම් සංයමයක්. ඒ සංයමය තිබුනු නිසා නිවසටම ඇවිල්ලා බත්ගෙඩිය අරගෙන යනවා, උපක. උපක දන්නෙ නෑ මේ නිවසේ රත්තරන් පාට හමක් තියෙන, බොහෝම හැඩකාර ලස්සන කාන්තාවක් ඉන්නවා කියලා මේ වැදි නායකයාගේ දුවණිය හරි ලස්සනයි කියලා උපක දැනගෙන හිටියේ නෑ. උපක දවස් ගාණක් මේ නිවසින් පිණ්ඩපාතෙ දානෙ අරගත්තා. කාලෙ ගතවුනා. ඒ කාලය ගතවෙනකොට වැදි නායකයා යම්කිසි කටයුත්තකට වංගහාර ජනපදයෙන් ටිකක් ඈතට යන්න සිද්ධ වුනා. මේ ගමන යෙදිච්චි ගමන් වැදි නායකයාට මතක් වුනේ තමන්ගේ හිත පැහැදිලා තියෙන අර තාපසයින් වහන්සේ. දැන් වැදි නායකයා හිතනවා, හරි වැඩේ, මං ගියොත් එහෙම තාපසයින් වහන්සේගේ දානෙ වරදිනවා. කොහොමද දැන් මේ දානෙ කටයුත්ත කරන්නෙ. මගේ කෙලීට කියන්න ඕන. කෙලීගේ නම චාපානෙ. කිව්වා දුවේ චාපා මෙහෙට වරෙන්. හෙට ඉඳලා මං එනකං තාපසයින් වහන්සේට බත්ගෙඩිය උඹම ගිහින් දෙන්න ඕන. තාපසයින් වහන්සේට බත්ගෙඩිය බොහොම ගෞරවයෙන් පූජා කරලා වන්දනා කරපං, තාපසයින් වහන්සේත් එක්ක කතා බහ කරන්න යන්න එපා කිව්වා. එතකොට චාපා හොඳයි කියලා කැමැති වුනා. ඔන්න ඊළඟ දවසේ උපක කියන තරුණ තාපසයා මේ වැදි නායකයාගේ නිවසට පිණ්ඩපාතෙ වැඩම කලා. නිවස ඉස්සරහා වැටකඩොල්ලේ හිටගත්තා. ඒ හිටගන්නකොට චාපා බලාගෙන හිටියේ, තාපසයින් වහන්සේ එනතුරු, තාත්තා පවරපු වැඩේ කරන්න. තාපසයින් වහන්සේ එනවා දැක්කා විතරයි බත්ගෙඩියත් අරගෙන චාපා මේ වැදි නිවසින් එළියට එනවා. හරියට වළාකුලකින් හඳක් මෑත් වුනා වගේ උපක දැක්කෙ. උපකගේ හිත වසඟ වුනා. චාපා මිදුලට එනකොට නිකං මිදුලටම අකුණක් ගැහුවා වගේ. චාපාගේ දැක්මෙන් උපකගේ හිත පිරී ගියා. උපකට දැන් ඔක්කොම අමතකයි, චාපා දිහාම බලාගෙන ඉන්නවා. චාපා බොහොම ගෞරවයෙන් ඇවිල්ලා උපක තාපසයාගේ පාත්‍රයට දානෙ ගෙඩිය පූජා කලා, බත් ගෙඩිය. ඒ බත්ගෙඩිය පූජා කරලා චාපා හැරිලා ගියා. උපකට දැන් ඔක්කොම අමතක වෙලා. උපකගේ යම්තාක් තපස් තිබුනාද තපස් ඔක්කොම සුන්නද්ධූලි වෙලා ගියා. දැන් උපකට මැව් මැවී පේන්නේ චාපා විතරයි. චාපාගේ රුව, චාපාගේ හිනහව, චාපාව අමතක කරන්න බෑ. බත්ගෙඩියත් අරගෙන

උපක ආපහු එනවා කෙදිරි ගගා ලෙනට. ඒ බත් එක අනුභව කරන්න තරම් පිරියක් නෑ. දැන් උපකගේ හිත කියන්නේම චාපා නැත්නම් ජීවිතෙත් එපා. චාපා නැත්නම් ජීවිතෙත් එපා කියලා කෙදිරි ගගා වකුටු වෙලා නිදාගත්තා. දවස් තුන හතරකට පස්සෙ වැදිරැහේ නායක වැද්දා ඔන්න එනවා. ඇවිල්ලා ආපු ගමන් චාපාට කතා කරලා ඇහුවා මගේ දුවේ උඹ තාපසයින් වහන්සේට වරද්දන්නේ නැතිව දානෙ පූජා කලා නේද. එතකොට කිව්වා, අනේ අප්පච්චි තාපසයින් වහන්සේ ආවෙ එකම එක දවසයි, එදා ඕං මං බත් ගෙඩිය පූජා කොලා. එදා ගියා ගියාමයි ආයෙ තාපසයින් වහන්සේ දැක්කෙ නෑ. අපේ අප්පොච්චි යන්න එපා කියලා තියෙන හින්දා අපි පැත්ත පළාතෙ බලන්න ගියෙත් නෑ කිව්වා. එතකොට මේ ගමන් වෙහෙසවත් නොතකා වැදි නායකයා ආයෙ ඒ තාපසයින් වහන්සේ හිටපු ලෙනට යනවා. අනේ ලෙනට යනකොට කෙදිරි ගගා ඉන්නවා. ළඟට ගිහින් කතා කලා, මගේ තාපසයින් වහන්ස, ඔබ වහන්සේට අසනීපයක් වත්ද, මොකෝ මේ, දවස් කීපයක් තිස්සේම පිණ්ඩපාතෙ වැඩම කරලා නෑ කියලයි ආරංචිය. ළංවෙනකොටම උපක කෙදිරිගගා කියනවා මං ඔබේ දුව චාපා ව දැක්කා. චාපා කියන ඔබේ දුව මට නොලැබෙනවා නම් මට ජීවිතෙත් එපා කිව්වා. චාපා නොලැබෙන මගේ ජීවිතේ මෙහොතක්වත් මට එපා, මං මැරෙනවා කිව්වා. එතකොට දැන් වැදිරැහේ නායකයා හොඳටෝම හිරවුනා. දැන් කරගන්න දෙයක් නෑ, මේ තාපසයා ඔක්කොම තවුස් සිඳගෙන. දැන් තවුස් මොකුත් නෑ, දැන් හිතේ තියෙන්නෙ තමන්ගේ දුව ගැන විතරයි. මොනවා කරන්නද, වැදි නායකයා තීරණය කලා එහෙනම් මගේ දුවව මේ තාපසයාට පාවලා දෙන්න ඕන. ඔන්න ඔය විදියට තමයි උපක චාපා කියන දෙන්නා එකිනෙකා එකතු වෙන්නෙ. චාපා රූපයට හරි ආඩම්බර කෙනෙක්. තමන්ගේ රූපයට මේ උපක කියන තාපසයා, නැත්නම් මේ උපක කියන තරුණයා අහුවෙලා ඉන්නෙ කියලා දැනගත්තට පස්සෙ චාපා හරි අහංකාර වුනා. හැබැයි චාපා උපකට ආදරයට කතා කලා හැමතිස්සේම කලූ කියලා. දෙන්නා විවාහ වෙලා සන්තෝසෙන් කාලය ගත වුනා. එහෙම කාලය ගතවෙනකොට, ගතවෙනකොට මේ දෙන්නාටම කියලා දරු පැටියෙකුත් ලැබුනා. චාපාගේ තිබුනා පුරුද්දක් හැමතිස්සේම උපකට නොයෙක් නොයෙක් ඇනුම් පද කියනවා. මොකද උපක කියලා කියන්නෙ තරුණ වයසේම තාපස වෙච්චි කෙනෙක්. මේ වැදි රැහේ ඉන්න ඒ වයසේ අනිත් තරුණයන්ට පුලුවන් දේවල් උපකට බෑ. උපකට බර උස්සන්න අමාරුයි, උපකට දඩයම් බෑ, උපකට මොකුත් කරගන්න බෑ, එතකොට චාපා හරීයට උපකට එක

එක හින්ට් පාස් කරනවා. දරුවා උපන්නාට පස්සෙ ඒක වැඩිවුනා. මේ ඉපදිච්චි දරුවා නළවනකොට චාපා මේ දරුපැටියාව නළවන්නේ උපකට හිත රිදෙන විදියේ එක එක වචන කිය කිය. තාපසයාගේ පුතා නැළවියං කියනවා. තාපසයින් වහන්සේගේ පුතා නොහඬා ඉඳපං කියනවා, දැන් තාපසයාගේ පුතා දැන් බත් ටික කාපං කියනවා, කිරි ටික බීපං කියනවා. ඉතින් මෙහෙම මෙහෙම කියනකොට උපකට හිත රිදෙනවා. කාලෙ ගතවෙනකොට උපකට මේ විවාහ ජීවිතේ එපාවුනා. මේ කාමයට අහුවෙච්චි එක ගැන තමන්ට යළි යළිත් හිතට දුක එන්න පටන් ගත්තා. තමන් නිවන් සැපයක් සොයාගෙන තාපස ජීවිතයක් ගත කරපු කෙනෙක් නේද කියලා මතක් වුනා. ඒ මතක් වෙනකොට මැවි මැවී පේන්න ගත්තෙ බුදුරජාණන් වහන්සේමයි. පින. එක මොහොතකට දැකපු බුදුරජාණන් වහන්සේ මොහොතකට සංවාදයක් සිද්ධ වෙච්චි බුදුරජාණන් වහන්සේව ඒ මොහොතෙන් පස්සෙ අමතක වෙලා ගියපු බුදුරජාණන් වහන්සේගේ රුව උපකට යළි යළිත් මතක් වෙන්න පටන් ගත්තා. ඒ තිබුනු සංසිඳීම, ඒ තිබුනු ශාන්ත බව, දුටුවන්ගේ හිත් වසඟ කරවන බව, උපක බැලුවා, උපක අවධානයෙන් ආරංචි කරලා බැලුවා ඒ දුටු ශ්‍රමණයන් වහන්සේ දැන් කොහෙ ඉන්නවා ඇත්ද, එතකොටයි උපක දැනගත්තේ බුදුරජාණන් වහන්සේ ගැන එදා තමන් මුලින්ම කතා කරපු ඒ ශ්‍රමණයන් වහන්සේ ගැන දැන් කීර්ති රාවය පැතිරිලා ඒ බුදුරජාණන් වහන්සේ කියන්නෙ අරහං, රහතන් වහන්සේ නමක්ලු, සම්මා සම්බුද්ධ, ගුරුවරයෙක්ගේ උපදෙස් නැතිව චතුරාර්ය සත්‍යය අවබෝධ කරපු කෙනෙක්ලු. ඒ ගැන අහනකොට උපකට මතක් වුනා උන්වහන්සේ එදා එහෙම එකක් මාත් එක්ක කිව්වා, උන්වහන්සේට ගුරුවරයෙක් නෑ කියලා කිව්වා. උන්වහන්සේ විජ්ජාචරණ සම්පන්නයිලු, සුගතයිලු, ලෝකවිදූලු, මේ පුරුෂයන් දමනය කිරීමෙහි ලා, දහම තුළ හික්මවීමේ ලා උන්වහන්සේ අනුත්තරීයලු, ශ්‍රේෂ්ටලු, දෙවියන්ටත් මිනිසුන්ටත් එකම ශාස්තෲන් වහන්සේ බුදුරජාණන් වහන්සේලු. ඒ බුදුරජාණන් වහන්සේ අවබෝධ කරපු දහම් පදය හරීම ලස්සනට නිරවුල්ව පැහැදිලිව කියාදෙනවාලු. මේ ගුණ දරාගන්න තරම් මහා භාග්‍යවන්ත කෙනෙක්ලු කියලා මේ කතාව උපකට අහන්න ලැබුනා. ඒ බුදුගුණ අහන්න ලැබෙනකොට උපකගේ හිත සම්පූර්ණයෙන්ම භාග්‍යවතුන් වහන්සේ ළඟ පැවිදි වෙන්න ඕන කියන තැන පිහිටියා. දැන් උපක චාපා ළඟට ගිහිල්ලා නිතර නිතර කියන්න පටන් ගත්තා චාපා මට මහණ වෙන්න ඕන. මං ආයෙමත් යනවා මහණ වෙන්න. මං මේ ගිහිජීවිතේට කැමැති නෑ කියනවා. එතකොට චාපා

මොකක්හරි කියලා උපකගේ හිත වෙනස් කරනවා. එක්කො දරුවා ගැන කියලා උපකගේ හිත වෙනස් කරනවා. දවසක් උපක හිත දැඩි කරගත්තා. හිත දැඩි කරගෙන චාපා ළඟට ගිහිල්ලා මෙන්න මේ විදියට කියනවා, ඒ වෙලාවේ හිටියේ චාපා තමන්ගේ දරු පැටියා නළව නළව. උපක කියනවා චාපාට එයා ඉස්සර තවුස් පිරිකර අතට ගත්ත කෙනෙක්. නමුත් දැන් එයා මුව වැද්දෙක්. ආසාව නිසා කාම මඩ ගොහොරුවෙන් මිදිලා එතෙරට යාගන්න එයාට බැරිවුනානෙ. දැන් මේ කවුරු ගැනද කියන්නෙ තමන් ගැනමයි. ඉස්සර තවුස් පිරිකර අරන් ඇවිදපු කෙනා දැන් මුව වැද්දෙක් වෙලා. මේ කාම මඩගොහොරුවේ එරුණානෙ. මේකෙන් එතෙර වෙන්න බැරිව ගියානෙ. චාපා හිතාගෙන ඉන්නෙ මං තාමත් ඇයට ඇලිලා ඉන්න කෙනෙක් කියලා. ඔන්න දැන් ඈ පුතාව නළවන්න පටන් ගත්තා. ඒ වුනාට චාපා ගැන මගේ හිතේ තියෙන බන්ධනය නැති කරගෙන මං ආයෙමත් මහණ වෙනවා. දැන් මේවා කියන්නෙ චාපාට ඇහෙන්න. තමන්ගේ පැවිදිවීමට ඇති කැමැත්ත චාපාට කිව්වා. එතකොට චාපා ඒකත් විහිළුවකට ගත්තා. විහිළුවට අරගෙන චාපා කියනවා මෙහෙම, මහා වීර්යවන්තයාණෙනි, මං ගැන ඉතින් කේන්ති ගන්න එපා. මහාමුණිඳුනි මං ගැන කේන්ති ගන්න එපා. ක්‍රෝධයට යටවෙන කෙනෙකුට පිරිසිදු බවක් ඇතිවෙන් නෑ නොවැ. තපසක් කොයින් ද කිව්වා. එතකොට තවමත් චාපා නිකං අර තාපසවාදයෙන් උපකට නොයෙක් නොයෙක් විදියේ ඇනුම්පද කියනවා. චාපා කියනවා කේන්ති ගන්න හොඳ නැනෙ තාපසයන්ට, කේන්ති ගත්තොත් එහෙම කොයින්ද තපසක්. කොයින්ද පිරිසිදු බවක්, ඒ නිසා තාපසයින් වහන්ස, කේන්ති ගන්න එපා. මේ තමන්ගේ ස්වාමිපුරුෂයාට කියන්නෙ, එතකොට උපකට කේන්ති ගියා. උපක කියනවා මං මේ නාලාගමත් දාලා යනවා. මේ නාලාගමේ නවතින්නේ කවුද. ධාර්මික ජීවත් වෙච්චි ශ්‍රමණයින්වත් අල්ලගත්තේ ඔන්න ඔය ස්ත්‍රී රූපය තමයි කිව්වා. මේ වංගහාර ජනපදයට ඇවිල්ලා නාලාගම කියන, නාලා කියන වැදි ගමට ආපු නිසානෙ උපකට මේ නස්පැත්තිය වුනේ, චාපා දැකපු ගමන්නෙ උපකගේ තවුස් සුන්නද්ධූලි වෙලා ගියේ. ඉතින් කියනවා ඔය ස්ත්‍රී රූපය තමයි අහිංසක විදියට ධාර්මික විදියට ජීවත් වෙච්චි ශ්‍රමණයන්ගේ තවුස්කම් නැති කලෙත් ඔය ස්ත්‍රී රූපෙ තමයි. මේ නාලාගමට මා නාවා නම් මේක වෙන් නෑ. මං ඒ නිසා මේ නාලාගම දාලා යනවා. මං ආයෙ එන්නෙ නෑ කිව්වා. එතකොට චාපා උපකට මෙහෙම කියනවා. හරි හරි කලූ, මෙහාට එන්න නවතින්න. කලින් වගේම කාම සම්පත් අනුභව කරන්න, ඉතින් මාත්, මගේ නෑදෑයො ඔක්කොමත් ඔයාට

වසඟ වෙලා ඉන්නෙ නොවැ කිව්වා. එතකොට චාපා එහෙම කියන්නෙ උපකගෙ හිත හැදෙන්න. උපකව වර්ණනා කලා. ඔයාට ඉතින් අපි ඔක්කොම වසඟ වෙලානෙ ඉන්නෙ. ඒ නිසා ඔය කේන්තිය අතහැරලා දාල ඉන්න කිව්වා. එතකොට උපක ස්ථිර අදහසක් ඇතිව දැඩිව මෙහෙම කියනවා. චාපා, ඔයා මට ඔය කියන කතාවලින් හතරෙන් පංගුවක් කිව්වොත් ඔයාට ඇලුනු මිනිහෙකුට නම් ඒක මහා ලොකු දෙයක් වගේ තියයි, මට නම් වැඩක් නෑ කිව්වා. ඔයා ඔච්චර දොඩවන්න ඕන නෑ කිව්වා ඔයාට ඇලුනු මිනිහෙකුට. ඔයාට ඇලුනු මිනිහෙකුට නම් ඕකෙන් හතරෙන් පංගුවක් කිව්වත් ඇතිවෙයි හරි හරි මං ඔයත් එක්ක ඉන්නම් කියලා ඉන්න. නමුත් මට කියවන්න එන්න එපා කිව්වා ඕවා. මං දැන් යනවාමයි. ඔන්න එතකොට චාපා කියනවා ඒ කාලෙ කියපු කතා. චාපාත් එක්ක ආදරෙන් බැඳිච්චි මුල් කාලෙ උපක චාපාට කියපු ආදර කතා. ඒවා මතක් කරලා දෙනවා. ඒ කාලෙ ළංවෙලා මෙහෙම කිව්වා නේද. කලූ කන්දක් මුදුනක යොවුන් කිණිහිරි මල් ගහක් තියෙනවා. ඒ මල් ගහේ ලස්සනට මල් පිපිලා තියෙන්නෙ, ඒ වගේම ලස්සනට මල් පිපිච්චි දෙළුම් ගහකුත් තියෙනවා, දූපතක් මැද්දේ තියෙනව ලස්සනට මල් පිපී ගිය පලොල් ගහක්. රන් හඳුන් ගාපු ශරීරයක් තියෙන උතුම් කසී සළු පොරවන ලස්සන ශරීරයක් තියෙන මාව අත්හැරලා දාලා යන්න පුලුවන් කාටද, ඔයාට පුලුවන්ද කියලා ඇහුවා. ඒ කාලෙ ඔය උපක චාපාව වර්ණනා කරලා තියෙන්නෙ ඔහොම තමයි. ඔයා හරියට කන්දක් මුදුනේ තියෙන කිණිහිරි මල් ගහක් වගෙයි ඔයාගෙ ලස්සන. ඒ ගහේ හරි හැඩට මල් පිපිලා තියෙනවා වගෙයි ඔයාගේ ලස්සන. හරියට ඔයාගේ ලස්සන දූපතක් මැද්දෙ තියෙන ලස්සනට මල් පිපිච්චි දෙළුම් ගහක් වගේ. එහෙම නැත්නම් ලස්සනට මල් පිපිච්චි පලොල් ගහක් වගේ ඔයාගේ ලස්සන කියලා ඔහොම ඉතින් බොළඳ කතා කියලා තියෙනවා. ඒ කියාපු කතා දැන් චාපා මතක් කරලා දෙනවා. එතකොට ඔය වාගේ කතන්දර කියනකොට වෙනදාට නම් උපක වෙනස් වෙනවා. නමුත් දැන් උපක එහෙම නෑ. උපක ඒ වෙලාවේ කියනවා ලිහිණි වැද්දා කැමැති වුනා ලිහිණියෙක්ව හිර කරලා තියාගන්න. නමුත් චාපා ඔයාගේ ඔය රූපෙන් ආයෙමත් මාව නම් බැඳලා තියාගන්න බෑ, මං දැන් ඔයාව හිතින් අත්හැරලා ඉවරයි. දැන් චාපාට තේරෙනවා, උපක මේ කතාව නම් කියන්නෙ හිත එකලස් කරගෙනමයි. දැන් උපකගේ හිත අනිත් පැත්ත හරවන්න අමාරුයි. චාපාට දුක හිතුනා. චාපා කලබල වුනා. චාපා කලබලෙන් කියනවා කලූ, මගේ මේ පුතා මට ලැබුනෙත් ඔයා නිසානෙ. ඉතින් පුතෙක් ඉන්න මාව අත්හැරලා දාලා යන්න හිතන්නෙ

කව්ද. ඔයාට පුලුවන්ද මේ පුතාවයි මාවයි අත්හරින්න. නුවණ තියෙන මිනිස්සු දරුවන්ව අත්හැරලා දානවා. ඒ වගේම තමන්ගේ නෑදෑයන්වත් දේපොල වස්තුවත් අත්හැරලා දානවා. හරියට මහා හස්තිරාජයෙක් දම්වැල් කඩාගෙන යනවා වගේ ගිහි බන්ධන කඩාගෙන ගිහින් මහණ වෙනවා නුවණැත්තො. ඒ නුවණැත්තො මහණ වෙනවා වගේ මාත් යනවා මහණ වෙන්න කිව්වා. එහෙම කිව්ව ගමන් චාපා කියනවා හා එහෙමද, එහෙනම් මං දැන් පොල්ලකින් ගහලා හරි පිහියකින් ඇනලා හරි මේ පුතාව මරලා දානවා. පොළොවේ ගහලා හරි මරලා දානවා. එතකොට පුතා ගැන ශෝකයෙන් ඉන්න ඔයාට ඔය ගමන යන්න ලැබෙන් නෑ. ඔයා මේ ගෙදරින් එළියට අඩියක් තිබ්බොත් එහෙම මං පුතාව මරනවා කිව්වා. එතකොට උපක කොච්චර දැඩිව මේ තීරණය අරන් තිබුනාද කියන්නෙ උපක කියනවා, ඒයි ලාමක ගැහැණිය ඔහොම නෙවෙයි, පුතාව හිවල්ලුන්ට කන්න දුන්නත් බල්ලන්ට කන්න දුන්නත් මට කමක් නෑ. පුතෙක් හින්දා ආයෙමත් මාව මේ ගෙදර නවත්තගන්න බැරි බව දැනගනිං, එහෙම සැරට කිව්වා. ඉතින් එතකොට චාපාට තේරුනා කවදාවත් උපක මේ වගේ කතා කරන්නෙ නෑ. කොච්චර කේන්ති ගිය අවස්ථාවකවත් මේ විදියේ සැරට, මේ විදියේ තදින් මේ විදියේ ස්ථිරව පිහිටි වදන් වලින් උපක කතා කරලා නෑ. ඒ වෙලාවේ චාපා හිත වෙනස් කරගෙන චාපා අඬලා ඒ ඇඬූ හිත එකලස් කරගෙන චාපා මෙහෙම කියනවා. හරි කලූ, මගේ ස්වාමීනී හා හොඳයි එහෙනම් කියන්න දැන් ඔයා කොහෙටද යන්නෙ, කොයි ගමටද, කොයි නියම් ගමටද, කොයි නගරයටද, කොයි රාජධානියකටද ඔයා මේ මාව අත්හැරලා යන්නෙ. මගේ මේ දරුපැටියත් අත්හැරලා ඔයා කොහෙටද යන්නෙ. අන්න එතකොට උපක චාපාට ඒ එකම එක වතාවක් මුණ ගැහිච්චි අසිරිමත් ශාස්තෘන් වහන්සේ ගැන කිව්වා. එකම එක වතාවක් මුණ ගැහිලා ගම්භීර බ්‍රහ්ම ස්වරයෙන් ගාථා පද කිහිපයක් අහගත්ත හැටි, උපක චාපාට කිව්වා. චාපාත් මුවැත්තියක් වගේ අහගෙන හිටියා. උපක කියනවා, ඇත්තෙන්ම චාපා ඉස්සර අපි ශ්‍රමණයෝ නොවීම ශ්‍රමණයන් කියලා හිතාගෙන උන්නෙ. ඉතින් පිරිස් පිරිවරාගෙන ගමින් ගමට නගරයෙන් නගරයට රාජධානියෙන් රාජධානියට ඇවිදපු එක විතරයි අපි කලේ. අපේ පැවිද්ද කියලා තිබුනෙ සම්පූර්ණයෙන් ඇවිදිල්ලක් විතරයි. නමුත් චාපා ඒසෝ හි භගවා බුද්ධො නදිං නේරංජරම්පති සබ්බ දුක්ඛං පහානාය ධම්මං දේසේති පාණිනං තස්වාහං සන්තිකේ ගච්ඡං සෝ මෙ සත්තා භවිස්සති - නමුත් චාපා මං දැන් යන්නේ අන්න ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ ළඟටයි. මට ආරංචියි ඒ බුදුරජාණන්

වහන්සේ නේරංජනා ගංතීරයේ හැමදුක් අවසන් කරන ධර්මය දේශනා කරනවා කියලා. ඒ නිසා මං මේ වතාවේ යන්නෙ උන්වහන්සේ ළඟට. චාපා උන්වහන්සේ තමයි මගේ ශාස්තෘන් වහන්සේ. ඒ වෙලාවේ උපක චාපාට සියලු විස්තරය කිව්වා. බුදුරජාණන් වහන්සේව දැක්ක හැටි, බුදුරජාණන් වහන්සේ දැකපු වෙලාවේ උන්වහන්සේගෙන් ප්‍රශ්න අහනකොට තමන් වහන්සේව හඳුන්වාදීපු හැටි මේ කාරණා උපක එකින් එක විස්තර කලා, තමන්ගේ ආදර බිරිඳ චාපාට. චාපා කියලා කියන්නෙ පින්වන්ත තැනැත්තියක්. බුද්ධ කියන වචනය ඇහෙනකොටම චාපාගේ හිත පැහැදී ගියා, සසර පුරුද්ද. සංසාර ගමනේ බුද්ධ ශාසන වල පින් පුරාගෙන ආපු පුරුද්ද ඇයට තිබුනා. ඒ නිසා උපකගේ කටින් බුද්ධ කියන වචනෙ ඇහෙද්දී චාපාගේ හිත පැහැදී ගියා. චාපා කියනවා අනේ එහෙනම් ලෝක නාථ වූ අනුත්තර මුණිඳුන් ළඟට ඔයා යන්න. ගිහිල්ලා ඒ මුණිඳුන්ට මාත් වන්දනා කරපු බව කියන්න. උන්වහන්සේව ප්‍රදක්ෂිනා කරලා ගෞරවයෙන් වන්දනා කරලා ඒ පින මට දෙන්න කිව්වා. එතකොට උපක කියනවා, ඔව් චාපා ඔයා කියන විදියටම ඒ පින ලබාගන්න පුලුවන්. ලෝකනාථ වූ අනුත්තර වූ මුණිඳුන්ට ඔයාගේ වැඳීම ගැන මං කියන්නම්. උන්වහන්සේව පැදකුණු කරලා ඒ වන්දනාවේ පින මං ඔයාටත් අනුමෝදන් කරන්නම්. මෙහෙම කියලා උපක නේරංජනා ගංතීරය දක්වාම ගියා. ඒ නේරංජනා ගංතෙර දක්වා උපක යනකොට එදා බුදුරජාණන් වහන්සේ එහිදී උපකට මුණ ගැහුනා. භාග්‍යවතුන් වහන්සේ මුණ ගැහුනාට පස්සෙ උපක ඒ මහාකාරුණිකයාණන් වහන්සේට ගෞරවයෙන් වන්දනා කලා. ප්‍රදක්ෂිණා කලා. චාපාගේ නමිනුත් බුදුරජාණන් වහන්සේව වන්දනා කලා. ප්‍රදක්ෂිණා කලා. ඒ උපක චාපාට පින් අනුමෝදන් කලා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේට මෙහෙම කියනවා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස ඔබවහන්සේගේ උතුම් බුද්ධ ශාසනයේ පැවිද්ද ලබාගන්න මාත් ආසයි. ස්වාමීනී පැවිද්දක් පතාගෙනමයි මේ වංගහාර ජනපදයේ නාලාගම ඉඳන් මං ආවෙ. ස්වාමීනී මා හට පැවිද්ද ලැබේවා. මා හටත් උපසම්පදාව ලැබේවා. ඉතින් එදා උපක පැවිදි වෙනවා. උපසම්පදා වෙනවා. බුදුරජාණන් වහන්සේගෙන් ලබාගත්ත දහම් අවවාද වලට අනුව ධර්මය පුරුදු කලා. ඒ ධර්මය පුරුදු කරනකොට නොබෝ කලකින්ම චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගෙන උතුම් මහරහතන් වහන්සේ නමක් බවට පත්වෙන්නට ඒ උපක තෙරුන් වහන්සේටත් පුලුවන් වුනා. ඒ ගැන තියන්නෙ මේ විදියට. බුදුරජාණන් වහන්සේ අමාදහම් දේශනා කලා. ඒ අමාදහම නම් දුකත්, දුකේ හටගැනීමත්, දුක ඉක්මවා යාමත්, දුක

සංසිඳවන ආර්ය අෂ්ටාංගික මාර්ගයත්. මේ තමයි බුදුරජාණන් වහන්සේ දේශනා කරන ධර්මය, ලෝක සත්වයාගේ සංසිදීම පිණිස, නිවන පිණිස බුදුරජාණන් වහන්සේ දේශනා කරන ධර්මය චතුරාර්ය සත්‍යයි. නොයෙක් වචන වලින් බුදුරජාණන් වහන්සේ වදාළේ චතුරාර්ය සත්‍යය. නොයෙක් වර්ණනාවන්ගෙන් බුදුරජාණන් වහන්සේ ඉස්මතු කලේ චතුරාර්ය සත්‍යය. ඒ චතුරාර්ය සත්‍යයමයි ශාස්තෲන් වහන්සේ ලෝකයට දේශනා කරන්නෙ. සිංසපා වනයේදී බුදුරජාණන් වහන්සේ භික්ෂු සංඝයාත් එක්ක සිංසපා වනයේ වඩිමින් ඉද්දි මේ සිංසපා වනයේ බිම වැටී තිබූ ඇට්ටේරියා කොළ මිටක් අතට අරගත්තා. සිංසපා වනය කියලා කියන්නෙ ඇට්ටේරියා වනය. ඇට්ටේරියා වනාන්තරයේ ඇට්ටේරියා කොළ ගොඩාක් තියෙනවා. බිම වැටුනු කොලත් ගොඩාක් තියෙනවා. ඒ කොළ අතරින් බුදුරජාණන් වහන්සේ බිම වැටුනු කොළ මිටක් අරගෙන භික්ෂූන්ට පෙන්නුවා. අහනවා මහණෙනි, තථාගතයන් වහන්සේගේ ශ්‍රී හස්තය මත තියෙන මේ ඇට්ටේරියා කොළ ද වඩාත් වැඩි, එසේත් නැතිනම් මහණෙනි මේ මුළු වනාන්තරයේම තියෙන කොළ ද? භික්ෂූන් වහන්සේලා කියනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස වනයේ යම් කොළ තිබේ නම් ඒ කොළ මයි වැඩි. බුදුරජුන්ගේ ශ්‍රී හස්තය මත තියෙන්නේ ස්වල්පයකි. මහණෙනි, තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ අවබෝධ කොට වදාළ ප්‍රමාණය මේ ඇට්ටේරියා වනයේම තියෙන කොළ ප්‍රමාණය නම් බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ මේ අතට ගත්ත කොළ මිට වගේ ඉතා ස්වල්ප ප්‍රමාණයකි. මහණෙනි, එයට හේතුව මොකක්ද, ඒ දේශනා කරන ප්‍රමාණය පමණයි මේ ලෝක සත්වයාට අර්ථය පිණිස පවතින්නෙ. නිවන පිණිස පවතින්නෙ. අවබෝධයෙන් කළකිරීම පිණිස පවතින්නෙ එයයි. මහණෙනි, ඒ ධර්මය නම් කුමක්ද? ඒ ධර්මය නම් දුක ගැන කියාදීමයි. ඒ ධර්මය නම් දුකේ හටගැනීම නම් වූ තණ්හාව ගැන කියාදීමයි. ඒ ධර්මය නම් දුක නිරුද්ධ වීම නම් වූ අමෘත නිවන ගැන කියාදීමයි. ඒ ධර්මය නම් දුක් නසන ප්‍රතිපදාව වන උතුම් ආර්ය අෂ්ටාංගික මාර්ගය ගැන කියාදීමයි. සම්මා දිට්ඨි, සම්මා සංකල්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි යන සීල සමාධි ප්‍රඥා සංඛ්‍යාත උතුම් ආර්ය අෂ්ටාංගික මාර්ගය නිවන් මග ගැන කියාදීමයි. මේ චතුරාර්ය සත්‍යය තමයි උපකටත් අහන්න ලැබුනේ. ඉතින් උපක බුදුසමිඳුන්ගේ සිරිපතුල් වැඳපුදාගත්තා. උන්වහන්සේ වටේ පැදකුණු කරලා ලබාගත්ත පින චාපාට අනුමෝදන් කලා. බුද්ධ ශාසනයේ පැවිදි වී ත්‍රිවිද්‍යාව ලබාගෙන බුදුසසුන සම්පූර්ණ කරගත්තා. චාපාට මේ කාරණා

ඔක්කොම ආරංචි වුනා. තමන්ගේ ආදර ස්වාමියා බුදුරජාණන් වහන්සේ බැහැදැක්කාලු, බොහොම ගෞරවයෙන් වන්දනා කලාලු, තමන්ටත් පින් අනුමෝදන් කලාලු, ඒ පින්වත් බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පැවිදි වුනාලු, පැවිදි වෙලා පරම සැපයට පත්වුනාලු කියලා චාපාට අහන්න ලැබුනා. එතකොට චාපා ඒ ගැන පැහැදීමක්ම ඇති කරගත්තා. ඒ ගැන සතුටක්ම ඇතිකරගත්තා. තමන්ගේ පුතා ලොකු වෙනකම් චාපා ගිහිගෙදර වාසය කලා. පුතා ලොකු වුනාට පස්සෙ චාපා ඒ පුතාගේ තාත්තා වන උපක ගැන මේ ලස්සන කතාව, උපකට මුණගැහිච්චි ඒ අසිරිමත් ශාස්තෘන් වහන්සේ ගැන පුතාටත් කියලා දුන්නා. මේ අම්මයි පුතයි දෙන්නටම ආසාවක් ඇතිවුනා බුද්ධ ශාසනේ පැවිදි වෙන්න ඕන කියලා. ඉතින් චාපාත් චාපාගේ පුතත් බුදුරජාණන් වහන්සේව හොයාගෙන පිටත් වුනා. නාලාගම අත්හැරලා දාලා භාග්‍යවතුන් වහන්සේව හොයාගෙන පිටත් වෙලා යම් තැනකදී ඒ මහා කාරුණික බුදුරජාණන් වහන්සේ ඒ දෙන්නාට හමුවුනාද, එතනදි ඒ දෙන්නාම බුදුරජාණන් වහන්සේගෙන් පැවිද්ද ඉල්ලුවා. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, වංගහාර ජනපදයේ නාලා කියන වැදිගමේ ඉඳලයි අපි එන්නෙ. ස්වාමීනී, පැමිණියේ ඔබවහන්සේ සම්මුඛයේ පැවිද්ද පතාගෙනමයි. ස්වාමීනී අපට පැවිද්ද ලැබේවා, අපට උපසම්පදාව ලැබේවා. ඒ භාග්‍යවතුන් වහන්සේගේ ශාසනයේ චාපාගේ පුතා මහණ වුනා. රහතන් වහන්සේ නමක් බවට පත්වුනා. ඒ ශාසනයේ භික්ෂුණී සංඝයා අතරේ චාපාත් මහණ වුනා. ඒ චාපාත් නොබෝ කලකින් උතුම් අර්හත්වය සාක්ෂාත් කරපු භික්ෂුණියක් බවට පත්වෙලා ඒ චාපා අර්හත් භික්ෂුණිය මේ තමන්ගේ ලස්සන කතා පුවත ථෙරීගාථා වලදී වදාළේ. ඉතින් ඒ නිසා තමයි මේ ප්‍රවෘත්තිය අපිට අහන්න ලැබුනේ. බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ අම්මෙකුත්, තාත්තෙකුත්, පුතෙකුත් කියන තුන්දෙනාම නිවනේ සැනසිච්චි හැටි. චාපාත්, උපකත්, ඒ දෙන්නාගේ ආදර පුතාත්, පින්වතුනි සම්බුද්ධ ශාසනය කියලා කියන්නෙ සංසාර ගමනේ පින් පුරාගෙන ආපු අයට ඒ පුරපු පුණ්‍ය ධර්මයන්ගෙන් ලබාදෙන උතුම්ම සැපය ලබාදෙන තැන. අපි යම් අයුරකින් පින් රැස් කරනවාද සිත කය වචනයෙන් ඒ සිත කය වචනයෙන් රැස් කරන පිනට සැප ලබාදෙන්න පුලුවන්. ඇත්තෙන්ම පිනටයි කියන්නෙ සැප කියලා. සුඛො පුඤ්ඤස්ස උච්චයො - පින තමයි සැප. ඒ ලබාදෙන සැප අතරේ යම් උත්තරීතර සැපයක් ඇත්ද, ඒ සැප තමයි නිවන් සැප. ඒ නිවන් සැප කරා පින් පිරූ අයගේ ජීවිත ගියපු හැටි පුදුමාකාරයි. ඒ ජීවිත නිවන කරා ඇදුනු විදිය පුදුමාකාරයි. පරම සැපයට ඒ ජීවිතය පත්වෙච්චි

විදිය පුදුමාකාරයි. දැන් මේ කතා ප්‍රවෘත්තිය බලන්න. එකම පවුලක අම්මත් බුද්ධ ශාසනයේ පැවිදි වෙලා අර්හත් උත්තමාවියක් බවට පත්වෙනවා. තාත්තත් බුද්ධ ශාසනේ පැවිදි වෙලා රහතන් වහන්සේ නමක් බවට පත්වෙනවා. ඒ දෙන්නාට දාව මේ ලෝකෙට උපන්න එකම ආදරණීය පුතත් බුද්ධ ශාසනේ පැවිදි වෙලා රහතන් වහන්සේ නමක් බවට පත්වෙනවා. අසිරිමත්. ඒ හින්දා තමයි බුදුරජාණන් වහන්සේ පින රැස් කිරීම හැමතිස්සේම වර්ණනා කලේ. පින ගැන වර්ණනා කරනකොට බුදුරජාණන් වහන්සේ වදාළා පින කියන එක රැස් කරද්දි මාවමඤ්ඤෙථ පුඤ්ඤස්ස - කිසිම පිනක් ගැන අවමං කොට හිතන්න එපා. න මං තං ආගමෙස්සති - මේවා පුංචි පින්කම්, මේවොගේ විපාක අපිට මහාලොකුවට බලපාන්නෙ නැතිවෙයි කියලා. උදබින්දු නිපාතේන උදකුම්භෝපි පූරති - වතුර වුනත් බිංදුව බිංදුව එකතු වෙලා කලයක් සම්පූර්ණයෙන් පිරීයනවා. මේ වතුර බිංදුවක්ය කියලා ගණන් නොගෙන ඉන්න වටින් නෑ, මොකද බිංදුව බිංදුව බිංදුව ගොඩාක් එකතු වුනොත් කාලයක් යනකොට කළයක් වුනත් පිරෙනවා. පූරති ධීරෝ පුඤ්ඤස්ස ථෝක ථෝකම්පි යාචින - අන්න ඒ වගේ ටික ටික වුනත් කෙනෙක් ජීවිතේට පින රැස් කරනවා නම් ඒ පින රැස් කරන කෙනාගේ ජීවිතය පිනෙන්ම පිරී යනවා. පිනෙන්ම සුන්දර වෙනවා, පිනෙන්ම ලස්සන වෙනවා. පිනෙන්ම අසිරිමත් වෙනවා. ඉතින් ඒ පින නිසා අසිරිමත් වෙච්චි ජීවිත කතාවක් බොහෝම ලස්සන පුවතක් අද අපි ඇහුවේ. ඇත්තෙන්ම පින්වතුනේ කෙලෙස් සහගත මිනිස්සුගැන කතන්දර අහනවාට වඩා කෙලෙස් නැති උත්තමයන්ගේ මේ චරිත කතා ශ්‍රවණය කරන්න ලැබීම කොච්චර ලාභයක්ද, චාපා නම් වූ අර්හත් තෙරණිය නිසයි අපිට මේ ලස්සන පුවත අහන්න ලැබුනේ ඒ තෙරණියගේ ගාථා විදියට. ඉතින් ඒ චාපා තෙරණියට නමස්කාර කරමින් වන්දනා කරමින්, ඒ වගේම උපක කියලා කියන්නෙත් රහතන් වහන්සේ නමක්. ඒ චාපාටත් උපකටත් දාව මෙලොවට උපන් එකම එක දරුවා, ඒ උත්තමයන් වහන්සේත් අර්හත්වයට පත්වෙලා නිදහස් වුනා. ඒ රහතන් වහන්සේලාටත් නමස්කාර කරමින් අපිත් අධිෂ්ටාන කරමු තෙරුවන් සරණ යන්න ලැබිච්චි පින් දහම් කරගන්න ලැබිච්චි මේ මනුස්ස ජීවිතේ තෙරුවන් සරණ තුළ පිහිටා හොඳට පින් රැස් කරගන්න. අපිත් අපේ ජීවිතය පිනෙන් පෝෂණය කරගෙන, පිනෙන් උපදින පරම සැපය වන ඒ උතුම් රහතන් වහන්සේලා සැනසුනු, අර්හත් උත්තමාවියන් සැනසුනු අමා නිවනේ සැනසෙන්න අප හැමදෙනාටත් වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!!

රැස් කරගන්නට යෙදුනා වූ සියලුම පුණ්‍ය ධර්මයන් සක්දෙව්දුන්ට, සතර වරම් දෙවිවරුන්ට, සෙන්පති දෙවිවරුන්ට අනුමෝදන් වෙත්වා. අපගේ ඉෂ්ටකාමී හිතකාමී සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. ලංකා භූමිය සුරකින සියලු දෙවිවරු පින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන් වන දෙවිවරු අප හැමදෙනාටම දෙවියන්ගේ ආශිර්වාදය රැකවරණය, උපකාරය නිරන්තරයෙන්ම සලසා දෙත්වා. ඒ සියලු දෙවියන්ටත් සසර දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ උදාරතර පුණ්‍ය ධර්මය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පරම පූජනීය පින්වත් ලෝකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් ව, නීරෝගී ව, දීර්ඝායුෂ සම්පත්ති ලබත්වා, මේ ගෞතම ශාසනය තුළම උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද දවසේ ධර්ම දානමය පින්කම සිදු කරන ඒ සුපින්වතුන්ලා බලාපොරොත්තු වෙන ආකාරයෙන්ම පාඨශාලාචාර්ය ටී.එන්. සෝමතිලක තෙලිසිංහ මහත්මාගේ හැට නව වන ජන්මදිනය වෙනුවෙන් සෙත් ප්‍රාර්ථනා කිරීමයි මූලිකම අරමුණ. මේ ධර්ම දානමය පිනේ ආශිර්වාදය, බුද්ධ රත්නයේ ආශිර්වාදය, ධර්ම රත්නයේ ආශිර්වාදය, සංඝ රත්නයේ ආශිර්වාදය, පින් අනුමෝදන් වෙලා සතුටු වෙන සියලු දෙවියන්ගේ ආශිර්වාදය ඒ පාඨශාලාචාර්ය පින්වත් ටී.එන්. සෝමතිලක තෙලිසිංහ මහත්මාට සැලසී නිදුක් නිරෝග සුව ලැබෙත්වා, දීර්ඝායුෂ සම්පත්තියම ලැබෙත්වා. මේ ගෞතම ශාසනය තුළ පින් දහම් රැස් කරගෙන දහමේ හැසිරී චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්න වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම ධර්ම දානය සිදුකරන පින්වත් ටී.එන්.ඩබ්ලිව්. තෙලිසිංහ මෙනෙවියගේ සුජීවත්ව සිටින ආදරණීය මෑණියන්ට පින් අනුමෝදන්ව මෑණියන් නිදුක් වෙත්වා, නිරෝග වෙත්වා, සුවපත් වෙත්වා, දීර්ඝායුෂ ලබත්වා, ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්න මේ පින් හේතුවාසනා වෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. මීට වසරකට පෙර මියපරලොව යන්න යෙදුනා වූ බෝගොඩ මහාවිදුහලේ විදුහල්පති භාවය දැරූ පින්වත් කේ.ඩබ්ලිව්. රාජපක්ෂ මහත්මාට, බදුල්ලේ සීයාට, ආච්චීට, මෑණියන් ඇතුළු සියලූම ඥාතීන්ට මේ සියලූම පින් අනුමෝදන් වෙත්වා. කුලියාපිටිය නවඩිගහවත්තේ විසූ අත්තම්මා ඇතුලු සියලූම ඥාතීන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. තමන්ගේ නමින් මියපරලොව ගියපු සියලු ඥාතීන්ගේ ජීවිත පරලොව

සැපයටම පත්වෙත්වා. ඒ ඥාතීන් හැමදෙනාටම ඒ දුක් සහිත සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙන්න වාසනාව ලැබෙත්වා කියන අදහසින් ඥාතීන්ට පින් අනුමෝදනා කරන්න. සුජීවත්ව සිටින සියලූම ඥාතීන්ට පින් අනුමෝදන් වෙත්වා, ධර්මදානය සිදු කරන කුලියාපිටියේ පදිංචි පින්වත් ටී.එන්.බඩ්ලිව්.එස්. තෙලිසිංහ මෙනෙවියට මේ පින් අනුමෝදන් වෙලා එතුමියට නිදුක් නිරෝගී සුවය සැලසේවා, දීර්ඝායුෂ සැලසේවා. නිරුතුරුවම ජීවිතයට කලයාණ මිත්‍ර ආශ්‍රය ලැබේවා. තවදුරටත් සුවසේ පින් දහම් රැස් කරගන්න, දහම් මඟ දියුණු කරගන්න අවකාශ ලැබෙත්වා. මේ ගෞතම ශාසනය තුළ ධර්මාවබෝධය පිණිස මේ උතුම් ධර්ම දානමය පින ඒකාන්ත වශයෙන්ම හේතු වාසනා වෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සැම සියලු දෙනාත්, ඒ වගේම සුපින්වත් ඔබටත්, ගෞතම සසුන තුළ සුවසේම ධර්මාවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=4auJqFeRY0I

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

ගුරු දේවෝත්තම කලයාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මාගේ වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු අද දවසේ ධර්ම දේශනාවට දායකත්වයන් දරන්නේ අංක 06, මුවන්පැලැස්ස, සූරියවැව යන ලිපිනයේ පදිංචි පින්වත් කස්තුරිආරච්චිගේ දයාරත්න මහත්මා, පින්වත් හේවාහල්පගේ ප්‍රේමාවතී මහත්මිය, කස්තුරිආරච්චිගේ ඉෂානි මේකලා දියණිය සහ චරිත් මධුසංඛ වීරකෝන් බෑණනුවන් විසින් ඒ පින්වතුන්ලාගේ ඒ ධර්ම දානයේ ප්‍රධානම අරමුණ තමන්ගේ නමින් මියපරලොව ගියා වූ සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට පින්පෙත් අනුමෝදනා

කිරීම, අද දවසේ අපි අහන ධර්ම දේශනාවටත් පසුබිම් වුනේ මියපරලොව ගියපු කෙනෙක්. ඥාතියෙක් මියයෑම නිසා ගොඩනැගිච්චි හරි අපූරු පුවතක්. අද අපි අහන්නෙ මේ දේශනාවට වෙනස්ම විදියේ කතාවක්. සුන්දරී තෙරණියගේ ගාථා. මේ සුන්දරී තෙරණියගේ ගාථා සම්පූර්ණයෙන්ම විස්තර වෙන්නෙ එකම එක කතාවක්. ඒ තමයි සුන්දරී තෙරණියගේ ගිහි කාලේ ඒ පවුල් ජීවිතේ තමන් ගත කරපු පවුල් සංස්ථාව තුළ සිද්ධ වෙච්චි පුවත. ඒක තමයි සුන්දරී තෙරණියගේ ගාථා විදියට මේ ගාථා වල අන්තර්ගත වෙන්නෙ ඇත්තටම සුන්දරී කියන අර්හත් උත්තමාවිය අර්හත්වයට පත්වෙලා ඇගේ මුළු පවුලටම බුදුරජාණන් වහන්සේගේ සරණ ලැබිච්චි විදිය කියනවා. හරිම ලස්සනයි මේ පුවත, මේක ලස්සන කතාවක්. සුන්දරී තෙරණියගේ සුන්දර කතාව. ඒක ආරම්භ වුනේ මෙහෙම. බරණැස හිටියා සුජාත කියලා බොහොම ධනවත් බොහෝම සල්ලි තිබ්බ මනුස්සයෙක්. ඔහුගේ නම සුජාත. ඒ සුජාත සිටුවරයාටත් සුජාත සිටුවරයාගේ ආදර බිරිඳ ඒ බැමිණියටත් දාව දරුවො දෙන්නෙක් මේ ලෝකෙට උපන්නා. වැඩිමහල් දියණියයි බාල පුතයි. මේ දෙන්නා උපන්නාට පස්සෙ දරු පැටව් දෙන්නාගේ ජීවිතය වෙනුවෙන් ඒ දෙන්නා දියුණු කරන්න ගොඩාක් කැපවෙලා, ඒ දෙන්නට හරී ආදරෙන් මේ සුජාත බමුණත්, බැමිණියත් කාලය ගත කරනවා. මෙහි වැඩිමහල් දියණිය විදියට උපන්නෙ සංසාර ගමනේ පින් පිරූ තැනැත්තියක්. ඒ තමයි සුන්දරී, වෙස්සභූ බුදුරජාණන් වහන්සේගේ උතුම් බුද්ධ ශාසනයේ ඇය බොහෝම පින් කරගත්ත කෙනෙක්. ඒ බුද්ධ ශාසනයේ ඉඳලා මේ සාංසාරික ගමනේ ගොඩාක් පින් පුරාගෙන පැමිණිලා තමයි මේ සුජාත බමුණාටත්, ඒ බැමිණියටත් දාව ඒ දෙන්නාගේ දුව විදියට මෙලොවට උපන්නා, පශ්චිමභවික තැනැත්තියක් විදියට. පශ්චිමභවික තැනැත්තිය කියලා කියන්නෙ පින්වතුනේ අවසාන ජීවිතේ. ඒ ජීවිතෙන් පස්සෙ යළි උපතක් නෑ. ඉතින් එහෙම පින් තියාගෙන තමයි ඈ උපන්නෙ. හැබැයි ඇගේ සහෝදරයා උපන්නානෙ. ඇගේ බාල මල්ලී. ඒ බාල මල්ලී කියන්නෙ අඩු ආයුෂ තිබ්බ කෙනෙක්. ඉතින් අඩු ආයුෂ ලැබෙන්න කර්මයත් බලපානවානෙ. බුදුරජාණන් වහන්සේ දේශනා කලා සාංසාරික ගමනේ යම් කෙනෙක් ප්‍රාණඝාතය කරනවා නම්, සත්තු මරනවා නම් ඒ සත්තු මැරීම කියන එක බහුල බහුල වශයෙන් කරපු කෙනාට සත්තු මැරීමේ පාපකර්මය හේතු කරගෙන උපනූපන් ආත්මයේ එයා කල්ඇතිව මියපරලොව යනවා. මනුස්ස ජීවිතයක් ලැබුවොත් එහෙම වැඩි ආයුෂයක් නෑ. එතකොට මල්ලී සුන්දරී කියන කාන්තාවගේ, මේ සුන්දරී කියන තරුණියගේ මල්ලී අඩු වයසින් මැරෙන්න

තමයි මනුස්ස ලෝකෙට ආවෙ. ඉතින් කවුරුත් දන්නෑනෙ. කවුරුත් දන්නෑ. මනුස්ස ලෝකෙට පැමිණිලා අනිත් අයත් එක්ක සන්තෝෂෙන් ජීවත් වුනා. දැන් අපිත් එක්ක ජීවත් වෙන ඥාතියො පින්වතුනි එහෙමනෙ. අපි හැමෝම එකට ජීවත් වෙනවා, එකට කාලා ඇඳලා, එකට සතුටු වෙලා, එක එක්කෙනා එක එක කර්ම ස්වභාවයන් උරුම කරන් ඉන්නවා. සමහරු අඩු වයසින්ම මැරිලා යනවා. සමහරු ඉතා ඉක්මණින් ලෙඩ වෙනවා. මේ කතන්දරය අපි හැම එක්කෙනාගෙම ජීවිත වල තියෙනවානෙ. ඉතින් වැඩි කාලයක් ගතවුන් නෑ, මේ සුජාත බමුණාගේ ආදර පුතා කාලක්‍රියා කලා. ඒ ආදර පුතා මියපරලොව යෑම සුජාත බමුණාට දරාගන්න බැරිව ගියා. පුතාගේ අවසන් කටයුතු කරපු, පුතාගේ මෘත ශරීරය දවපු සොහොනට ගිහිල්ලා මේ සුජාත බමුනා නිතර ශෝක කරනවා. ඉතින් මේ සිදුවීම සිද්ධ වෙච්චි දවසේත් සුජාත බමුණා තමන්ගේ පුතා දැවූ සොහොනට යනවා, තමන්ගේ රථාචාරියාත් එක්ක, රියදුරාත් එක්ක. රියදුරත් එක්ක සොහොනට ගිහිල්ලා මේ සොහොනේ පුතා දවපු තැන එතැන සටහන් ඉතින් තියෙනවා ඇතිනෙ. ඒ පුතා දවපු තැනට ගිහිල්ලා මොහු අඬනවා. ඉකි ගගහා අඬනවා. මේ අඬද්දි පේනවා බොහෝම සන්සුන් ඉඳුරන් ඇති බිමට බර වූ නෙත් යුග ඇති සන්සිඳී ගිය ජීවිතයක් ඇති වාසෙට්ඨී නම් වූ රහත් තෙරණිය මෙතෙන්ට වඩිනවා. වාසෙට්ඨී රහත් තෙරණිය කියලා කියන්නෙ මේ සුජාත බමුණා දන්න කියන කෙනෙක්. ඔය වාසෙට්ඨී කියන අර්හත් උත්තමාවිය ගෞතම ශාසනයේ පැවිදි වෙන්න කලින් ඇයත් පුත්‍ර වියෝවෙන් දුකට පත්වෙලා හිටපු තැනැත්තියක්. ඇගේ පුතා, ආදර පුතා මියපරලොව ගියා ඒ මියපරලොව ගියපු ශෝකය උහුලගන්න බැරිව අඬ අඬා හිටපු අම්මා කෙනෙක් මේ. දැන් මෙන්න කසාවතක් දරාගෙන බොහෝම සන්සිඳිලා මේ සොහොනට වඩිනවා. මේ දැක්කාට පස්සෙ සුජාත බමුණාට පුදුම හිතුනා. ඉතින් සුජාත බමුණා තමන් අඬන එක නවත්තලා කඳුළු පිහදාගෙන ගිහිල්ලා මේ වාසෙට්ඨී කියන අර්හත් උත්තමාවියට කතා කරනවා. ඇට කියනවා පින්වතී ඔයා ඉස්සර ගත කරපු ජීවිත වලදී මැරී ගිය දරුවන් කමින් තමයි ජීවත් වුනේ. ඔයා ඒ කාලේ රෑ දවල් දෙකේ ගොඩාක් තැවි තැවී නේද හිටියේ, එහෙම නේද ඇහුවා. මොකක්ද පින්වතුනි මේ තමන්ගේම දරුවෝ කමින් හිටියා කියපු එකේ කතාව. මේ දරුවෝ කනවා කියලා කියන්නෙ නින්දා සහගත වචනයක්. නින්දා කරන්න කියපු වචනයක්, ඒ කාලෙ සමාජයේ ඒ කියන්නෙ යම් කාන්තාවකට උපදින දරුවා මැරෙනවා නම්, ඒ දරුවා මැරෙන කාන්තාවට ඒ කාලෙ මිනිස්සු කියලා තියෙනවා මේ මහා අවාසනාවන්ත

කාලකණ්ණි තැනැත්තියක්, මෑ මේ දරුවො කනවානෙ. අන්න එහෙම කියලා තියෙනවා. ඉතින් මිනිස්සු එක එක කතන්දර කියනවානෙ, සාමාන්‍යයෙන් මිනිස්සුන්ට කරදර උපද්‍රව වෙනකොට බොහෝ දෙනෙක් හිතන්නෙ ඒ කෙනාගේ කාලකණ්ණි කම අවාසනාවන්ත කම, ඒ කෙනාගේ අභාග්‍යවන්ත කම, අපිට නම් ඕවා වෙන් නෑ අපි වාසනාවන්තයො. එහෙමනෙ මිනිස්සු හිතන්නෙ. ඉතින් ඒක එකල මෙකල කියලා මහා වෙනසක් නෑ. ඒ කාලෙත් මෙහෙම අඩු වයසින් දරු පැටියා මැරිලා ගියාට පස්සෙ ඒ අම්මට සාප කරන එකක් තිබිලා තියෙනවා සමාජයේ. ආපෝ ඔය මහා පව්කාර ගෑණුනෙ. කාලකණ්ණි ගෑණුනෙ. ඒකුන් මේ කුසේ දරුවො උපදිනවා කියලා කියන්නෙ දරුවො කන තැනැත්තියගේ කුසේනෙ උපන්නෙ. අඩුවයසින් මැරිලා යනවා අවාසනාවන්ත දරු පැටව්. අන්න එහෙම සාප කරලා තියෙනවා. ඉතින් මිනිස්සු කල්පනා කලේ එහෙම තැනැත්තියක් අඬ අඬාම ඉන්න ඕන, අවාසනාවන්තයිනෙ. අභාග්‍යසම්පන්නයිනෙ. කාලකණ්ණියිනේ. දරුවො මැරුණට පස්සෙ ඒ කෙනා අඬ අඬාම ඉන්න ඕන එල්ලගෙනම ඉන්න ඕන, ජීවිතේ කාලකණ්ණි කරගන්නම ඕන. දැන් මේ ඒ අදහසේ හිටපු සුජාත බමුණාට පේනවා දරුවා මැරීම හේතුවෙන් අඬ අඬාම හිටපු වාසෙට්ඨී නම් තැනැත්තී දැන් සන්සිඳිලා ගිහිල්ලා. දැන් ඇය නිවිලා. බිමට නැඹුරු වූ නෙතු ඇතිව ඉතා ප්‍රියමනාප වූ මුහුණක් ඇතිව මෙන්න ඇය වඩිනවා. එතකොට ඈ සතුටින් අකම්පිතව ඉන්නවා කියලා දැනගෙන ඔහු කියනවා තවත් මෙහෙම. වාසෙට්ඨී බ්‍රාහ්මණය ඔයා ඒ සිය ගණනින් ඔක්කොම දරුවන් කාලා අද තැවෙන්නේ නැති දැඩි සිතකින් ඉන්නෙ කොහොමද, එහෙම ඉන්නෙ ඇයි? ඔයාට කෙහොමද මෙහෙම දැඩි සිතක් ලැබුනෙ? එහෙම අහනවා. එහෙම අහනකොට මේ අර්හත් උත්තමාවිය පිළිතුරු දෙනවා. හැබැයි ඒ උත්තමාවිය පිළිතුරු දුන්නේ සංසාරේ ගැන හිතලා. සාංසාරික කතාව හිතලා තමයි ඈ උත්තර දුන්නෙ. ඈ කියනවා බ්‍රාහ්මණය අතීතය ගැන කතා කලොත් මං විතරක් නොවෙයි ඔයත් කාලා තියෙනවා සිය ගණන් දරුවො. ඈ කිව්වෙ සංසාර ගමන. සාංසාරික ගමනේ පැමිණෙද්දී මේ සංසාර ගමනේ අපි කොච්චර දුක්ඛිත ඉරණම් වලට ගොදුරු වෙලා තියෙනවාද. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මහණෙනි, දුප්පත් වූ තැනැත්තෙක් අත පාගෙන, හිඟා කාගෙන යනවා දකිනකොට ඔබත් හිතන්න, මාත් මේ හිඟන්නා වගේ අන්ත අසරණ වෙලා මේ සසරේ ඕන තරම් ඉඳලා ඇති. එහෙමයි මේ සසර. තව කෙනෙක් අවාසනාවන්ත විදියට දුකට පත්වෙනවා දකිනකොට, ඥාති ව්‍යසන

වලට පත්වෙනවා දකිනකොට, දරුවො මැරිලා අසරණ වෙනවා දකිනකොට, ලෙඩරෝග වලින් දුක් විඳිනවා දකිනකොට හිතන්න ඕන. මාත් මේ සසරේ මෙහෙම කාලකණ්ණි වෙලා ඇති. මේක එහෙම සංසාරයක්. මේ සංසාරික ගමනේ එනකොට පින්වතුනේ තමන්ගේම දරුවො කන සත්තු වෙලා අපි කොච්චර ඉපදිලා ඇත්ද බළල්ලු වගේ. බැළලියෝ තමන්ගේම උපදින දරුවො, තමන්ම වදලා, තමන්ම කනවානෙ. එහෙම බැළලියො ඉන්නවානෙ. අපි සංසාර ගමනේ එනකොට එහෙම ජීවිත ලබලා නැතිව ඇත්ද. ඕන තරම්, ඕන තරම් ලබලා ඇති. ඉතින් ඒ ගැන හිතලා අර්හත් උත්තමාවි කියනවා බ්‍රාහ්මණය අතීතයේ මං විතරක් නෙවෙයි, ඔබත් සිය ගණන් දරුවො කාලා තියෙනවා, දරුවො විතරක් නෙවෙයි, නෑදෑයොත් කාලා තියෙනවා. ඔබේ ඥාතීනුත් කාලා තියෙනවා. ඥාතීන්ගේ විනාශය පිණිසත් ඔබ කටයුතු කරලා තියෙනවා. දැන් මං ඒ ඉපදෙන මැරෙන ලෝකයෙන් නිදහස් වෙලා නිවන අවබෝධ කරගෙන ඉන්නෙ. දැන් ඒ දුක්ඛිත කතාව මට නෑ කිව්වා. ඉපදෙමින් මැරෙමින් යන සාංසාරික කතන්දරය මං අවසන් කලා. මට දැන් ඒ ප්‍රශ්නය නෑ. මං නිවන අවබෝධ කලා. මං නිවිලා ගියා. ඒ නිසා මං ශෝක කරන්නෙ නෑ. ශෝක නොකරන ජිවිතයක් උපදවාගත්තා. අඬන්නේ නෑ. නොහඬනා ජීවිතයක් උපදවගත්තා. මං තැවි තැවී ඉන්නෙ නෑ. නොතැවෙන ජීවිතයක් උඑදවාගත්තා. දැන් මේ බමුණාට පුදුමයි. අඬන්නේ නැති ජිවිතයක්, ශෝක කරන්නේ නැති ජීවිතයක්, තැවෙන්නේ නැති ජීවිතයක් හිතන්නවත් පුලුවන්ද. බමුණා පුදුමයෙන් අහනවා, වාසෙට්ඨී හරිම අද්භූත දෙයක්නෙ ඔයා ඔය කියන්නෙ. ඔයා කාගෙ ධර්මයක් අවබෝධ කරගෙනද ඔච්චර ස්ථාවරයක ඉඳන් කතා කරන්නෙ. එතකොට පේනවා ඒ අර්හත් උත්තමාවිය ඒ වෙලාවේ පිළිතුරු දීපු ඉරියව්වෙන් ස්වරයෙන් ඔහුට තේරිලා තියෙනවා මේ කරන්නෙ පිහිටා කතාවක්. විශාරද කතාවක්. එතකොට අර්හත් උත්තමාවිය වාසෙට්ඨී අර්හත් උත්තමාවිය පිළිතුරු දෙනවා බ්‍රාහ්මණය ඒ සම්මා සම්බුදුරජාණන් වහන්සේ එතකොට වැඩ හිටියේ මිථිලා නගරයේ. සියළු සත්වයන්ගේ දුක් දොම්නස් නැති කරන්නයි උන්වහන්සේ දහම් දෙසන්නෙ. ඒ බුදුරජාණන් වහන්සේ, ඒ අර්හත් වූ සම්මා සම්බුදු සමිඳුන්ගේ නිකෙලෙස් සද්ධර්මය මටත් අහන්න ලැබුනා. ඒ ධර්මය අවබෝධ කරගැනීමෙන් තමයි මගේ දරු දුක නැතිවුනේ. අන්න කියලා දුන්නා. හරි ඉලක්කෙටම වචනෙ කිව්වා. බ්‍රාහ්මණය මගේ තැවි තැවී ඉන්න ජීවිතය සම්පූර්ණයෙන්ම නැතිව ගියේ ඒ අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ දැක්ක දවසේ. ඒ බුදුරජාණන් වහන්සේ මිථිලා නුවර බණ කිව්වා.

මටත් ඒ බණ පදය අහන්න ලැබුනා. නිකෙලෙස් ජීවිතේ ගැන කියාදෙන ඒ බණ පදයට සවන් දෙද්දී දරු දුකක් නිසා අඬ අඬා හිටපු මගේ සන්තානයේ ගින්න නිවුනා කිව්වා. සන්තානයක ගිනි නිවෙනවා නම් බුදු බණකින්මයි. ජීවිතයක කම්කටොලු නිවෙනවා නම් බුදු බණකින්මයි. ලොව්තුරා භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මේ ලෝකයට දහම් නොදෙසන්න අහෝ මේ ලෝක සත්වයාගේ සසර ගිනි කොහොම නිවෙන්නද. සංසාරයේ ගිනි සියල්ල නිවී යන්නේ පින්වතුනේ බුදු කෙනෙක්ගේ ධර්මය නිසා. සංසාරයේ ගැට ඔක්කොම ලිහී යන්නේ බුදු කෙනෙක්ගේ ධර්මය නිසා. සංසාර ගමනේ එන සන්තාප දැවිලි ඔක්කොම සන්සිදෙන්නේ බුදු කෙනෙක්ගේ ධර්මය නිසා. මේ සංසාර ගමනේ ඉපදි ඉපදී යනකොට යම්තාක් කම්කටොළු විඳවන්න සිද්ධ වෙනවාද ඒ කම්කටොළු ඔක්කොම සදහටම නවතින්නේ බුදුරජුන්ගේ ධර්මය නිසා. මේ වාසෙට්ඨී කියන අර්හත් උත්තමාවි හරියටම මේ බ්‍රාහ්මණයාට වචනෙ කිව්වා. එතකොට බ්‍රාහ්මණයාගේ හිතට ලොකු සතුටක් ඇතිවුනා මමත් මේ දරු දුකක් නිසා විඳවන මිනිහෙක්. එහෙනම් ඒ බුදුරජානන් වහන්සේ ළඟට මටත් යන්න ලැබුනා නම් ඒ බුදුරජාණන් වහන්සේගේ බණ පදය මටත් අහන්න ලැබුනා නම් අනේ මගේ ප්‍රශ්නෙත් ඉවරයි. හරියට ලෙඩකින් විඳවන මිනිහෙකුට දක්ෂ වෙදෙක් ගැන අහන්න ලැබුනා වගේ. ලෙඩක් නිසා විඳවන මනුස්සයෙකුට අහන්න ලැබුනොත් එහෙම ඔය ලෙඩේ නිෂ්ටාවටම සුව කරන වෙදෙක් ඉන්නවා අහවල් දිහාවේ කියලා, ලෙඩේ සුවකරගන්න කැමැති මනුස්සයා එතෙන්ට යන්නැද්ද. අන්න ඒ වගේ මේ බමුණාට මහා සැනසිල්ලක් ඇතිවුනා. මේ බමුණා ඒ වෙලාවේම කියනවා එහෙනම් මාත් යනවා මිථිලා නගරයට. අනේ ඒ භාග්‍යවතුන් වහන්සේ මාවත් සියලු දුකින් මුදවාගන්නා සේක් නම් කොයිතරම් හොඳ ද? හරීම ලස්සන කතාවක්. අනේ ඒ භාග්‍යවතුන් වහන්සේ මාවත් සියලු දුකින් මුදවාගන්නා සේක් නම් කොයිතරම් හොඳ ද. ඔහු රථයට නැගුනා. යළි ගෙදරට හැරුනේ නෑ, ඔහු තමන්ගේ සැනසීම හොයාගෙන රියදුරාත් එක්ක පිටත් වුනා කෙලින්ම බරණැස ඉඳලා මිථිලාවට. මිථිලාවට ගිහිල්ලා ඔහුට පුලුවන් වුනා බුදුරජාණන් වහන්සේ බැහැදකින්න. ඉතින් ඒ බ්‍රාහ්මණයාත් බුදු බණ පදයට සවන් යොමු කලා. සිත් නිවන බණ පදය, අමෘතයක් වූ බණ පදය, අහන දෙයක් තුළින් ජීවිතයක් ශ්‍රේෂ්ටත්වය කරා අරගෙන යන බණ පදය, ඉගෙන ගන්න දෙයක් තුළින් ජීවිතයක් ශ්‍රේෂටත්වය කරා අරගෙන යන බණ පදය, කෝටියක් වචන අතරේ සිතක් නිවෙන උතුම් අර්ථය වන ඒ එකම එක බණ පදය එපමණට අහන්න ලැබුනා, බුදු බණ පද.

බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය. ඒ සද්ධර්මය අහගෙන ඉන්නකොට මේ බ්‍රාහ්මණයාට තිබුනා ඥාණය. හැම දුකකින්ම නිදහස් වුනා. නිකෙලෙස් බුදු සම්දුන්ව ධර්මය තුලින් දැකගත්තා. නිකෙලෙස් බුදු සම්දුන්ව ධර්මය තුළින් දැකගත්තා කියලා කියන්නෙ මොකක්ද, මාර්ග ඵල අවබෝධ කලා. සියලු දුකින් එතෙර වුනු බුදු සම්දුන් එයාටත් සද්ධර්මය දේශනා කලා. දුක්ඛං දුක්ඛ සමුප්පාදං දුක්කස්සච අතික්කමං අරියං චට්ඨංගිකං මග්ගං දුක්ඛූපසමගාමිනං - මොකක්ද බුදුරජාණන් වහ්නසේ කියා දීපු ධර්මය. දුකත් කියලා දුන්නා. දුකේ හටගැනීම ගැනත් කියලා දුන්නා. දුක නිරුද්ධ වෙච්චි තැන වන අමෘත නිවන ගැනත් කියලා දුන්නා. අමෘත නිවනට යන ප්‍රතිපදාව වන ආර්ය අෂ්ටාංගික මාර්ගය ගැනත් කියලා දුන්නා. ඉතින් ඒ සුජාත බමුණා ආසාවෙන් බණ පදය අහගෙන හිටියා. එයා සද්ධර්මය අවබෝධ කරගත්තා. මහණ වෙන්න කැමැත්ත් ඇතිවුනා. ඉතින් භාග්‍යවතුන් වහන්සේගේ අභිමුඛයේ මහණකම, පැවිදි බව ඉල්ලා සිටිනවා. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, මටත් බුදුරජාණන් වහන්සේගේ සසුනේ පැවිද්ද ලැබේවා, උපසම්පදාව ලැබේවා. භාග්‍යවතුන් වහන්සේ සුජාත බ්‍රාහ්මණයාව පැවිදි කලා. ඒ සුජාත තෙරුන් වහන්සේ තුන් රැයක් ඇතුලත ත්‍රිවිද්‍යාව ලබාගත්තා. එහෙනම් මේ සුජාත කියලා කියන්නෙත් සංසාර ගමනේ සෑහෙන පිනක් තිබ්බ කෙනෙක්. තුන්රැයක් ඇතුලත, දින තුනක් ගතවෙනකොට ත්‍රිවිද්‍යාව සාක්ෂාත් කරපු රහතන් වහන්සේ නමක් බවට පත්වුනා. ඒ රහතන් වහන්සේ අර්හත්වයට පත්වුනාට පස්සෙ තමන්ගේ රියදුරාට කතා කරනවා. දැන් රියදුරාත් එක්කනෙ පින්වතුනි රථයේ නැගිලා මේ මිථිලාවට ආවෙ. රියදුරාට කතා කරලා කියනවා පින්වත් රියදුර, දැන් ඔයා ගෙදර යන්න. මේ රථය බැමිණියට දෙන්න. මං සනීපෙන් ඉන්න බව කියන්න. දැන් ඒ සුජාත බ්‍රාහ්මණයා මහණ වුනා කියන එක බැමිණියට දන්වන්න. තුන්රැයක් ඇතුලත එයා ත්‍රිවිද්‍යාව ලබාගත්තා කියන කතාවත් ඔබ කියන්න. රියදුරාව පිටත් කරලා ඇරියා. ඉතින් ඒ රියදුරා දුර ගෙවාගෙන ආපහු ඔන්න බරණැසට ගියා. දින තුනක් බ්‍රාහ්මණයාව දකින්න නැතිව කලබලෙන් හිටපු බැමිණියට මේ කතාව කිව්වා, බැමිණියනි කලබල වෙන්න කාරි නෑ, බ්‍රාහ්මණයාට අයහපතක් වුන් නෑ, ඒ බ්‍රාහ්මණයා දැන් නිවිලා ඉන්නෙ. ඔහු බුදුරජාණන් වහන්සේගේ බණ පද ඇහුවා. එතකොට බැමිණිය ඇහුවා, මොනවද ඒ බණ පද? රියදුරාත් බණ අහගෙන හිටියානෙ. රියදුරා කිව්වා බැමිණියෙනි මෙන්න මේවා තමයි ඒ බණ පද. ඇටත් ධර්මය අහන්න ලැබුනා. ඈ හරී සතුටට පත්වුනා. බුදුරජාණන් වහන්සේ දේශනා කරපු

ධර්මය එකින් එක පැහැදිලි කරනකොට ඒකට හිත ගියා. එතකොට ඒකෙන් තේරෙනවා බැමිණියටත් තිබුනා පින. ඇයි මේ පින, පින කියන කාරණය අපි නිතර නිතර කියන්නෙ. පින්වතුනි බණක් අහනකොට හිත පහදින්න පිනක් ඕන. බණක් අහනකොට හිත පහදින්න පිනක් ඕනමයි. ඒ නිසා ඔබට බණ අහද්දි හිත පහදිනවා නම් ඔබ, ඔබ ගැන සතුටු වෙන්න. ඔබ, ඔබ ගැන අහිංසක සතුටක් ලබන්න අනේ මට තිබ්බා. මේ බණ අහනකොට අහන බණ පදයේ ඇදකුද හොයන ඇයො අතරේ අනේ හිත පහදවාගන්න මට පින තිබ්බා. බණ පදයක් ඇහෙනකොට ඒ බණ පදයේ ඇත්තනේ කියලා හිතිලා බණ පදයට සාදු කාර දෙන්න තරම් පිනක් මට තිබ්බා. අන්න එහෙම හිත සතුටු කරගන්න, තමන් ගැන අහිංසක සතුටක් ලබන්න, ඇත්තටම අපිට පිනක් තියෙනවා, ඒ නිසා තමයි පින්වතුනි බණ පදයකට සවන් යොමාගෙන අහගෙන ඉන්නෙ. බණ පදයකට කන් යොමන්න හිතෙන්නෙ පිනක් නිසා. බණ පදයකට කන් යොමනකොට ඒ බණ පදය කෙරෙහි හිත පහදින්නේ පිනක් නිසා. බැමිණියටත් ඒ පින තිබ්බා. බැමිණිය කියනවා ඒ රථ රියදුරා මේ ඔක්කොම කතාව කියලා ඒ රියදුරා රථයත් කහවණු දාහත් බැමිණියට දුන්නා. ඒ කියන්නෙ ඒ රථයේ තිබිලා තියෙනවා ඒ බමුණා නිතර අරගෙන යන කහවණු දාහක මුදලක්. මේ රියදුරා ඒ කහවණු දාහත් බැමිණියට බාර දුන්නා. ඉතින් ඔක්කොම විස්තර කියලා ඒ බැමිණියගේ හිතේ තිබුනු දුක සංසිදෙව්වා. එතකොට බැමිණිය කියනවා පින්වත් රියදුර අපේ බ්‍රාහ්මණතුමා ඒ බුදුරජාණන් වහන්සේ ගේ ධර්මය අවබෝධ කරගෙන ත්‍රිවිද්‍යාව ලබාගත් බව ඔබගෙන් අපිට දැනගන්න ලැබුනා. අපේ හිත සතුටු වුනා. ඒ නිසා මේ අරගෙන ආපු රථයත්, මේ අශ්වයාත්, කහවණු දාහත් මං ඔබටම දෙනවා. ඒක පින් පඬුරක් විදියට ඔබම තියාගන්න කිව්වා. එතකොට බලන්න රියදුරා කියපු එක. ඒ කාලෙ රියදුරන්ටත් පින තිබ්බා. ඒ කාලෙ රියදුරාටත් පින තිබ්බා, ඥාණය තිබ්බා. රියදුරා කියනවා, පින්වත් බ්‍රාහ්මණී, මේ අශ්ව රථයත් කහවණු දාහත් ඔබතුමියම තියාගන්න මට එපා. මට මේ කහවණු දාහෙන් පලක් නෑ. මේ රථයෙනුත් පලක් නෑ. මේ අශ්වයාගෙනුත් පලක් නෑ. මාත් ඒ උත්තම ප්‍රඥා ඇති බුදුසමිඳුන් ළඟ මහණ වෙන්න යනවා. හරි පුදුම සහගතයි. මුහුත්තං පිචේ විඤ්ඤූ පණ්ඩිතං පයුරුපාසති - නුවණ තියෙන කෙනෙක් එක මොහොතකට බුදුරජාණන් වහන්සේගේ ධර්මය කියාගෙන නුවණැත්තෙක්ව ඇසුරු කලොත්, කිප්පං ධම්මං විජානාති ජිව්හා සූපරසො යතා - වහා හොද්දක රස දැනගන්නා දිවක් සේ ඔහු ධර්මය අල්ලන්නේමය. එතකොට මේ රියදුරාට සුජාත

බ්‍රාහ්මණතුමාට කියපු බණ පද ටික අහගෙන ඉන්නකොටම ගිහි ජීවිතේ එපා වුනා. මේ කරන්නෙ මොන නිසරු දෙයක්ද කියලා තේරුනා. ඉතින් ඔහු කියනවා බ්‍රාහ්මණී මට ඔය කහවණු දාහත් එපා, රථෙත් එපා, මාත් යනවා ඒ උත්තම ප්‍රඥා ඇති බුදුරජාණන් වහන්සේ ළඟ මහණ වෙන්න. එතකොට බැමිණියට තමන් ගැනම ශෝකයක් උපන්නා. බැමිණි කල්පනා කලා, මගේ මනුස්සයත් මහණ වුනා. ඒ මනුස්සයා ළඟ සමීපයේ හිටපු සේවකයා, රථ රියදුරා මිනිහත් මහණකමට කැමති වුනා. දරු දුකක් නිසා තැවි තැවී මං මොකට ඉන්නවාද මේකෙ. මච් බැමිණි කියනවා, දුවේ සුන්දරී ඔයාගේ තාත්තා මේ ඇත්තු අශ්වයෝ හරකාබාන මුතු මැණික් ගේදොර සම්පත් ඔක්කොම අත්හැරලා මහණ වුනා. දැන් මේ ඔක්කොම සම්පත් දුවේ ඔයා අනුභව කරන්නෙ. අපේ පවුලේ දායාදය අයිති ඔයාටනෙ. දැන් බැමිණිය සැරසුනේ මේවා ඔක්කොම දුවට සමීප කරලා බැමිණි යන්න. ඒ වුනාට මේ දුව, දුව පින්වන්ත තැනැත්තියක්. දුව ඥාණවන්ත තැනැත්තියක්. දුව මේ කතාව අහගෙන හිටියානෙ. සුන්දරී. ඈ කියනවා අම්මේ මගේ තාත්තා පුත්‍ර ශෝකයෙන් ගොඩාක් දුක් වින්දා. අන්තිමේදී මේ ඇත්තු අශ්වයෝ හරකාබාන මුතුමැණික් මේ සුන්දර ගිහි සම්පත් ඔක්කොම අත්හැරලා දාලා මගේ තාත්තා මහණ වුනා. අම්මො සහෝදර ශෝකයෙන් දුක් විදින මාත් මහණ වෙනවා. මේ ශෝක ගිනි මේ දුක් තැවුල් මොකුත් මටත් එපා. මාත් මහණ වෙනවා කිව්වා. මේ පින්වන්තයන්ගේ ජීවිත හැසිරෙන විදිය. පින්වන්තයන්ගේ ජීවිත බුදුරජාණන් වහන්සේගේ ධර්මය තුළට කරකැවිලා ගියපු හැටි, හරි පුදුම සහගතයි. පින තිබ්බ කෙනාගේ ජීවිතය අනිත් දේවල් එකක්වත් වටිනා දෙයක් වුන් නෑ බුදුරජාණන් වහන්සේගේ ධර්මයට වඩා. දැන් මේ මහා ධනවත් පවුල්. ඒ ධනවත් පවුල් වල අය කෙළපිඩක් වගේ ධනසම්පත් අත්හැරලා දාලා බුදුරජාණන් වහන්සේගේ පිළිසරණටම යනවානෙ. කිසි අපේක්ෂාවක් නැතිව බුදුරජාණන් වහන්සෙගේ පිළිසරණ හොයාගෙනම යනවා. එතකොට මේ බ්‍රාහ්මණිය කියනවා දුවේ සුන්දරී ඔයාත් බලාපොරොත්තු වෙන්නෙ උතුම් මහණ ජීවිතේ නම් මං බාධා කරන්නෑ. ඔයාගේ නෙක්ඛම්ම සංකල්පය ඉෂ්ට වේවා. නෙක්ඛම්ම සංකල්ප කියලා කිව්වෙ කාමය අත්හැරයාමේ හිත. ඒක ඉෂ්ට වේවා. හැබැයි දුවේ ගෙයක් ගෙයක් ගානෙ ඇවිදගෙන ගිහින් තමයි පිණ්ඩපාතෙ කරගන්න තියෙන්නෙ. පැවිද්ද කියන එක දුෂ්කරයි. පාංශුකූල සිවුරු තමයි ඔයාට පොරොව ගන්න තියෙන්නෙ. කමක් නෑ ඉතින් මේවා ලබාගෙන ඔයත් නිකෙලෙස් ජීවිතයක් ඇති කරගන්න. අම්මා ආශිර්වාද කලා.

ඉතින් ඒ සුන්දරී කියන මහාපිනැත්තී එක්තරා භික්ෂුණී ආරාමයකට ගියා. එහි හිටියා උතුම් භික්ෂුණියක්. ඒ භික්ෂුණියව ඇසුරු කලා. ඒ භික්ෂුණියගෙන් මේ ගෞතම ශාසනයේ උතුම් පැවිද්ද ඇය ඉල්ලා සිටියා. ඒ භික්ෂුණිය මේ සුන්දරී තරුණියව පැවිදි කරලා, ඈ සික්ඛමානාවක් විදියට ඉන්නකොටම ඇයට පුලුවන්කම ලැබුනා ගෞතම ශාසනය තුළ අර්හත් ඵලය සාක්ෂාත් කරන්න. තමන් අර්හත්වයට පත්වෙලා තමන්ගේ උපාධ්‍යාය වූ ඒ භික්ෂුණිය ළඟට ඇවිල්ලා සුන්දරී කියන තෙරණිය මෙහෙම කියනවා. ආර්යාවෙනි, මං තවමත් සික්ඛමානාවක්. සික්ඛමානාව කියලා කියන්නෙ උපසම්පදාවට පුහුණුවෙන සාමණේරිය. සාමාන්‍යයෙන් අවුරුදු දෙකක් උපසම්පදාව කැමැති භික්ෂුණියක් විසින් අවුරුදු දෙකක් හික්මෙන්න ඕන. ඒකට කියනවා සික්ඛාමානා අවධිය. එතකොට සාමණේරියක් විදියට ඉන්න කෙනා සික්ඛමානාවක් විදියට පත්වීම පිණිස අවුරුදු  දෙකක් හික්මෙන්න ඕන. එහෙම හික්මෙච්ච කෙනාට තමයි උපසම්පදාව ලබාගන්න පුලුවන්නෙ. ඒක තමයි ශාසනික ප්‍රතිපදාව. මේ සික්ඛමානාවක් විදියට ඉද්දිමයි කියනවා මං මගේ දිවැස් නුවණ පිරිසිදු කරගත්තෙ. ඉස්සර මං ගතකරපු ජීවිත ගැන දැනගන්න පුබ්බේනිවාස ඥාණය මං ලබාගත්තා. මේ පුබ්බේනිවාස ඥාණය කියලා කියන්නෙ  විද්‍යාවක්. පෙර ගතකරපු ජීවිත කතාව ජේන්න ගන්නවා. පෙර ගතකරපු ජීවිත කතාව ජේන්න ගන්නකොට තේරෙනවා මේක මහා බිහිසුණු සසර ගමනක් බව. ඇයි එක එක ජාති වල එක එක විදියට ඉපදි ඉපදි එක එක දුක් කරදර විඳ විඳ මේ ගමනේ අපි යන්නෙ. දැන් ඔන්න මේ කාලෙ වසංගත රෝගෙකට මැදිවෙලා. අපිට හිතෙනවා අප්පේ අපේ කාලකණ්ණිකම, මේ කාලෙ අපිම මේ වසංගතයකට මැදිවුනානෙ කියලා. එහෙම නෑ, මේ සංසාර ගමන එද්දි ඔයිට වඩා බිහිසුණු වසංගත වලට අපි කොච්චරවත් අහුවෙලා ඇති. මේ ශරීරය කෑලි කෑලි ගිහිල්ලා අපි මැරිලා ඇති. මහා බිහිසුණු වද බන්ධන වලට අපි අහුවෙලා ඇති. නොයෙක් දුක් පීඩාවලින් අපි මේ සාංසාරික ගමනේ ගොඩාක්විඳවන්න ඇති. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මහණෙනි, සසර ගමනේ එද්දි මනුස්ස ලෝකෙක ඉපදිලා හොරු බවට පත්වෙලා රජ්ජුරුවන්ට අහුවෙලා බෙල්ල කපද්දී ඔබේ ශරීරයෙන් ගලාගෙන ගියපු රුධිරය සතරමහා සමුද්‍ර ජලයට වඩා වැඩියි. මහමුහුදේ වතුර එච්චර නැත. හොරු විදියට බෙල්ල කපද්දි ගලාගෙන ගියපු ලේ වැඩිය. එහෙනම් මේ සංසාර ගමන කොහොම කතාවක්ද. අතිශයින්ම ශෝකජනක කතාවක්. අපි හැමදෙනාගේම අතීතයේ තියෙනවා, අපිට ජේන් නෑ. අපිට ජේන් නැත්තේ මොකද අපිට විද්‍යාව නැත. පුබ්බේනිවාස ඥාණය

අපිට නැහැ. අපි කෙහොමද මේක දැක්ක යුත්තේ, ශ්‍රද්ධාවෙන්. බුදුරජාණන් වහන්සේගේ ධර්මය ගැන අපි සැදැහැ සිතක් ඇති කරගත්තොත් අපිටත් දකින්න පුලුවන්, සංසාර ගමන දුක් සහිතයි. ඇයි අපි අදහාගන්නෙ බුදුරජුන්ගේ වචනය. එතකොට ඒ සාංසාරික ගමනේ ඇත්ත කතාව පේන පුබ්බේනිවාස ඥාණය ඇය ලබාගත්තා. භික්ෂුණී සංඝයාව සෝබමාන කරන කල්‍යාණමිත්‍රිය වන ආර්යාවෙනි, මං ඔබතුමිය නිසයි ත්‍රිවිද්‍යාව ලබාගත්තෙ, මං බුදුසසුන සම්පූර්ණ කරගත්තා. ආර්යාවෙනි මටත් අවසර දෙන්න, මම කැමැතියි සැවැත්නුවරටම යන්න. ඒ ශ්‍රේෂ්ට වූ බුදුසමිදාණන් ඉදිරියේ සිංහනාද කරන්න මාත් ආසයි. බුදුරජාණන් වහන්සේ ඒ කාලෙ වෙනකොට එතකොට වැඩ හිටියේ සැවැත්නුවර. බුදුරජාණන් වහන්සේ මිථිලාවෙන් සැවැත් නුවරට වැඩම කලා. භාග්‍යවතුන් වහන්සේ සැවැත්නුවර ඉන්නවා කියලා ආරංචි වෙච්චී මේ සුන්දරී භික්ෂුණිය තමන්ගේ උපාධ්‍යාය භික්ෂුනියගෙන් අවසර පතනවා අනේ මාත් ආසයි බුදුරජාණන් වහන්සේගේ පාකමල් යුග වඳින්න. මටත් අවසර දෙන්න, ඔබතුමිය නිසා මං ත්‍රිවිද්‍යාවම ලැබුවා, දැන් පළවෙනි විද්‍යාවනෙ පුබ්බේනිවාස ඥාණය. දෙවෙනි විද්‍යාව මොකක්ද, චුතූපපාත ඥාණය. මේ සංසාරික ගමනේ කර්මය අනුව යන කතාව. චුතූපපාත ඥාණයෙන් දකින්න පුලුවන් කර්මානුරූපව යන කතාව. මේ සත්වයෝ කයින් දුසිරිත් කරලා, වචනයෙන් දුසිරිත් කරලා, මනසින් දුසිරිත් කරලා ආර්ය උපවාද කරලා, මිත්‍යා දෘෂ්ටික වෙලා, මිත්‍යා දෘෂ්ටිකයො කරන ඒවා කර කර ඉඳලා නිරයේ යන හැටි පේනවා. ඊළඟට මේ ඇතැම් සත්වයෝ සිත, කය, වචනයෙන් කුසල් කරලා සුචරිතයේ හැසිරිලා ආර්යයන් වහන්සේලාට උපවාද කරන්නේ නැතිව ඉඳලා හොඳට සම්මා දිට්ඨියෙන් යුක්තව ඉඳලා සම්මා දිට්ඨි කම්ම සමාදාන, සම්මා දිට්ඨියෙන් යුක්ත කර්ම සමාදන් වෙලා යහපත් වූ කර්ම කරලා සෑය බෝධිය පුද පුදා ඉඳලා වන්දනාමාන කර කර ඉඳලා ඒ අය මරණින් මත්තෙ සුගතියේ යන හැටි පේනවා. දැන් මේ මරණින් මත්තෙ ජීවිතයක් කියන එක පින්වතුනි අපිට දකින්න විදියක් නෑනෙ. අපිට නෑ විද්‍යාව. විද්‍යාව තිබ්බා නම් අපිටත් පේනවා. අර්හත්වට පත්වෙච්චි උත්තමාවය ඒ විද්‍යාවත් ලබාගන්නවා, මැරුණාට පස්සෙ කර්මානුරූපව යන කතාව පේනවා. ඒ තමයි චුතූපපාත ඥාණය. ඊළඟට අර්හත්වයට පත්වෙනකොට උපදින තුන්වෙනි විද්‍යාවට කියනවා ආසවක්ඛය ඥාණය. කෙලෙස් කසට කිසිවක් මේ සන්තානයේ නැති බව දකින නුවණ, හරියට කෙනෙක් සුදුවන් වස්ත්‍රයක කිසිම කසටක් නෑ කියලා දකින්නේ යම් සේ ද, ඒ වගේ රහතන් වහන්සේ නමකට, රහත් තෙරණියකට තමන්ගේම

ජීවිතය ගැන පේනවා, මගේ ගාව කිසිම කෙලෙස් කසටයක්, කිසිම ක්ලේශයක් මගේ ජීවිතේ තුළ නෑ කියලා. ඒකට තමයි කියන්නෙ ආසවක්ඛය ඥාණය. ඉතින් ඒ ත්‍රිවිද්‍යාව ලබාගත්ත භික්ෂුණිය කියනවා අනේ ආර්යාවෙනි මාත් ආසයි මගේ බුදුරජාණන් වහන්සේ ළඟ සිංහනාද කරන්න. මොකක්ද රහතුන්ගේ සිංහනාදය, රහත් තෙරණිවරුන්ගේ සිංහනාදය. බුද්ධාලෝක අනුත්තරාති ස්වාමිනී භාග්‍යවතුන් වහන්ස, බුදුරජාණන් වහන්සේමයි මේ ලෝකෙ අනුත්තරීය. බුදුරජාණන් වහන්සේමයි මේ ලෝකෙ ශ්‍රේෂ්ට කියලා තමයි සිංහනාද කරන්නෙ. අන්න ඒ සිංහනාදය කරන්න යන්න මාත් ආසයි කිව්වා. එතකොට ඒ උපාධ්‍යාය භික්ෂුණිය කියනවා, සුන්දරී එහෙනම් ඔයා ඒ රත්තරන් පාටින් බබළන ශාස්තෘන් වහන්සේව බැහැදකින්න යන්න. බුදුරජාණන් වහන්සේගේ ඡවි වර්ණය, ස්වර්ණ පැහැය. ස්වර්ණ පැහැයෙන් බබළන, රත්තරන් පැහැයෙන් බබළන බුදුරජාණන් වහන්සේව දකින්න ඔයත් යන්න. නොදැමුනු උදවියව දමනය කරන කිසි ලෙසකිනුත් බිය නැති ඒ බුදුසම්දුන්ව දැකගන්න. සුන්දරී ඔයත් හැමදුකින්ම මිදුනු කෙලෙස් රහිත වූ වීතරාගී වූ කිසිම දෙයක් සමඟ එක් නොවූ සදහම් මග වඩා අවසන් කල කෙලෙස් රහිත බුදුසම්දුන්ව දැක බලාගන්න. හරිම ලස්සන ගාථාවක් පින්වතුනෙ. පස්ස සුන්දරි මායන්තිං විප්ප මුත්තං නිරූපදිං වීතරාගං විසංයුත්තං කතකිච්ඡං අනාසවං - බුදුරජාණන් වහන්සේට කියනව නම, විප්පමුත්ත - හැම දුකින්ම මිදුනු බුදුරජුන්. නිරූපදිං - කෙලෙස් රහිත වූ බුදුරජුන්. වීතරාගං - රාගය නැති, වීතරාගී වූ බුදුරජුන්. විසංයුත්තං - කිසිම ක්ලේශයක් එක්ක එකතු නොවූ බුදුරජුන්, කතකිච්චං නිවන්මග වඩා අවසන් කළ බුදුරජුන්. අනාසවං - ආශ්‍රව රහිත සන්තානයක් ඇති බුදුරජුන් ඔබත් දැකගන්න කිව්වා. ඉතින් සුන්දරී රහත් භික්ෂුණිය දුරගෙවාගෙන ඇය පැමිණියා සැවැත්නුවරට. සැවැත්නුවරට පැමිණිලා ඒ භාග්‍යවතුන් වහන්සේව බැහැදැක්කා. බුදුරජාණන් වහන්සේ සමීපයට ගිහිල්ලා භාග්‍යවතුන් වහන්සේට මෙහෙම කියනවා. මහා වීරයාණන් වහන්ස, මං බරණැසින් පිටත් වෙලා ඔබවහන්සේව බැහැදකින්න මේ දුර ගෙවාගෙන ආවෙ. මං ඔබවහන්සේගේ ශ්‍රාවිකාවක් වූ සුන්දරී. මං ඔබවහන්සේගේ සිරිපා කමල් යුග වන්දනා කරන්නම්. ත්වං බුද්ධො ත්වං සත්තා තුය්යාදේතාම්හි බ්‍රාහ්මණ ඕරසා මුඛතො ජාතා කතකිචඡා අනාසවා - බ්‍රාහ්මණ මුණිදානෙනි, මේ බුදුරජාණන් වහන්සෙට කියපු නමක්. බ්‍රාහ්මණ කියලා කියන්නෙ පිරිසිදු ජීවිතයක් ඇති උතුම් ජීවිතයක් ඇති, ශ්‍රේෂ්ට ජීවිතයක් ඇති. ඇත්තටම

පින්වතුනි මේ ලෝකයේ පිරිසිදු ජීවිතයක් ඇති තැනැත්තා කියලා කියන්න තියෙන්න බුදුරජාණන් වහන්සේටයි. උතුම් ජීවිතයක් ඇති තැනැත්තා කියලා කියන්න තියෙන්නෙ බුදුරජාණන් වහන්සේටයි. ඒ පිරිසිදු ජීවිතයක් ඇති, උතුම් ජීවිතයක් ඇති, ශ්‍රේෂ්ට ජීවිතයක් ඇති බුදුරජාණන් වහන්සේට ඇය කියනවා, ත්වං බුද්ධො - ඔබවහන්සේම බුද්ධ වන සේක. ත්වං සත්තා - ඔබ වහන්සේම ශාස්තෘ වන සේක. බුද්ධ කියලා කියන්නෙ පින්වතුනේ අවබෝධ කරගත්ත දේ අන් අයටත් අවබෝධ කිරීම පිණිස මැනැවින් කියාදෙන නිසා. බුද්ධ. සත්තා කියලා කිව්වෙ හරි පාර පෙන්නන නිසා, ශාස්තෘ. භාග්‍යවතුන් වහන්සේට ශාස්තෘ කියන්නෙ කොහොමද, දෙවිමිනිස්සුන්ගේ ශාස්තෘ, සත්තාදේවමනුස්සානං. දෙවියන්ටත් හරි පාර කියාදෙන, මිනිස්සුන්ටත් හරි පාර කියාදෙන එකම එක ශාස්තෘන් වහන්සේ වනාහි අපි බුද්ධං සරණං ගච්ඡාමි කියා සරණ ගියපු අපේ බුදුරජාණන් වහන්සේය. ශ්‍රාවකයො විදියට කොච්චර අභිමානයක්ද. ශ්‍රාවකයො විදියට කොච්චර සතුටු වෙන්න පුලුවන්ද, ඒ බුදුරජාණන් වහන්සේ. ඈ කියනවා තුය්හං ද්විතාම්හි බ්‍රාහ්මණ - මමත් ඔබවහන්සේගේ හදවතින් උපන්න ඔබවහන්සේගේ දුවක්. බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක වූ රහතන් වහන්සේලාට කියනවා ශාස්තෘන් වහන්සේගේ ළය මඩලින් උපන් පුත්තු. රහත් තෙරණින් වහන්සේලාට කියනවා ශාස්තෘන් වහන්සේගේ ළයමඩලින් උපන් දියණිවරු. දැන් මේ සුන්දරී කියන්නෙ අර්හත් තෙරණියක්. ඇය කියනවා තමන් ගැනම. ස්වාමීනී මං ඔබවහන්සේගේ දුවක්. ඕරසා - ඔබවහන්සේගේ හදවතින් උපන් දුවක්. මුඛතො ජාතා - ඔබවහන්සේග් සිරිසම්බුදු මුවමඩලින් උපන්න දුවක්. ඔබවහන්සේගේ සිරිසම්බුදු මුවමඩලින් යම් සද්ධර්ම අමාවක් ගලාගෙන ගියාද ස්වාමීනී ඒ සද්ධර්ම අමාව නිසා මං දමනය වුනේ. ඉතින් මං ඔබවහන්සේගේ මුවමඩලින් උපන් දුව. තතකිච්ඡා - මාත් නිවන පිණිස කලයුතු සියල්ලම කලා. අනාසවා - ස්වාමීනී මමත් දැන් ඉන්නෙ ආස්‍රව නැති පරම පාරිශුද්ධ සන්තානයක් දරාගෙන. එතකොට ඒ මහා වීර බුදුරජාණන් වහන්සේ ඇයට ධර්මයක් දේශනා කරනවා, ඇයට මෙහෙම කියනවා. තස්සා තේ ස්වාගතං බද්ධෙ තතො තෙ පදුරාගතං ඒවං හි දන්තා කායන්ති සත්තු පාදානි වන්දිතා වීතරාගා විසංයුත්තා කතකිච්ඡා අනාසවා - සොඳුරු තැනැත්තී, ඔබගේ ඔය පැමිණීම ඉතා යහපත්. ඔබගේ පැමිණීම අයහපත් වූවක් නම් නොවේ. දමනයට පත්වෙච්චි ශ්‍රාවිකාවන් ඔය විදියම තමයි. වීතරාගීව කිසිවක් හා එක්වෙන්නේ නැතිව නිවන් මග සම්පූර්ණ කරගෙන නිකෙලෙස් සිතින් ශාස්තෘන් වහන්සේගේ පා යුග වදින්න එනවා.

හරිම ආශ්චර්යයීයි බුද්ධ ශාසනය. ඉතින් බුද්ධ ශාසනය නිසා තමයි මේ පින්වතුනේ අපි අපේ සවන් පත් වලින් මෙහෙම දේවල් අහන්නෙ. බුද්ධ ශාසනයක් නොතිබ්බා නම් කෙලෙස් සහගත මිනිස්සුන්ගේ ආඩම්බරකං විතරයි අහන්න ලැබෙන්නෙ. කෙලෙස් සහගත මිනිස්සුන්ගේ නොයෙක් කයිකතන්දර විතරයි අපිට අහන්න ලැබෙන්නෙ. බලන්න බුද්ධ ශාසනය නිසා එකම පවුලේ තාත්තයි දුවයි දෙන්නම නිවසේ සැනසිච්චි හැටි අපි අහනවා බුදු සසුන නිසා. බුදුරජාණන් වහන්සේගේ ශාසනය කියලා කියන්නෙ ලෝකයට මහා යහපත පිණිසම පිහිටි එකක්. ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ පහළ වීම ගැන භාග්‍යවතුන් වහන්සේම දේශනා කරනවා ඒක පුග්ගලො භික්ඛවෙ ලෝකෙ පාතුභාවො - මහණෙනි මේ ලෝකයේ එකම එක පුද්ගලයෙකුගේ පහළ වීම යනු මහතො චක්ඛුස්ස පාතුභාවො - ලෝකෙම අතොරක් නැතිව දකිනා මහා ඇසක පහළ වීමයි. මහතො ඕභාසස්ස පාතුභාවො - ලෝකයම ඒකාලෝක කරන මහා ප්‍රභාෂ්වර භාවයක පහළ වීමයි. මහතො ආලෝකස්ස පාතුභාවො - ලෝකයම ආලෝකමත් කරන මහා එළියක පහළ වීමයි. ඡන්නං අනුත්තරියානං පාතුභාවො - මනුස්සයෙකුගේ ජීවිතේ ශ්‍රේෂටත්වය කරා අරගෙන යන සත්වයාගේ ජීවිතය උසස් තත්වයක් කරා අරගෙන යන අනුත්තරීය කරුණු හයක පහල වීමයි. දසනානුත්තරීය පහළ වී දැකීම් තුලින් ශ්‍රේෂ්ටත්වයට පත්වීම පිණිස බුදුරජුන් සඟරුවන පහළ වෙයි. ඒ එකම එක පුද්ගලයා නිසාය. අහන දේවල් අතර ශ්‍රේෂටත්වයට පත්වීම පිණිස හේතුවෙන සද්ධර්මය පහළ වෙයි එකම එක පුද්ගලයෙකුගේ පහළ වීම නිසා. ඉගෙන ගන්න දේවල් තුලින් ශ්‍රේෂටත්වය කරා අරගෙන යන ධර්මයේ පහළ වීම වෙයි එකම එක පුද්ගලයෙකුගේ පහළ වීම නිසා. මේ ලෝකයේ ලැබිය යුතු ලාභයන් අතර ශ්‍රේෂ්ටම ලාභය ලබන ලාභයන් අතර ජීවිතේ ශ්‍රේෂ්ටත්වය කරා අරගෙන යන ලාභය වන ශ්‍රද්ධා ලාභය ලැබීම පිණිස හේතුවෙයි එකම එක පුද්ගලයෙකුගේ පහළ වීම. මේ ලෝකෙ සේවා කටයුතු ඇප උපස්ථාන සිදු කිරීම හේතුකරගෙන ජීවිතයක් උසස් තත්වයට පත්වෙනවා නම් ඒ සඳහා හේතුවෙන අතිශ්‍රේෂ්ට කාරණය වන බුදුරදුනුත් මහා සඟරුවනත් මේ ලෝකයට පහළ වන්නෙ ඒ එකම එක පුද්ගලයාගේ පහළ වීමෙනි. මේ ලෝකයේ හිතන දෙයක් නිසා මනුස්සයෙක් ශ්‍රේෂ්ටත්වය කරා යනවා නම් හිතීම් අතර ශ්‍රේෂ්ට වූ කාරණය ලෝකයට පහළ වෙන්නෙ ඒ එකම එක පුද්ගලයා පහළ වීමෙනි. කවුද මේ එකම එක පුද්ගලයා තථාගතො අරහතො සම්මා සම්බුද්ධො. තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ පහළ වීම. බුදුරජාණන් වහන්සේ

කියන්නෙ ලෝකයට පහළ වෙන මහා ඇස, මහා ආලෝකය ප්‍රභාෂ්වර භාවය, ජීවිතයක් ශ්‍රේෂ්ටත්වයට පත්වෙන කාරණා හයේම පහළ වීම කියලා කියන්නෙ මගේ බුදුරජාණන් වහන්සේගේ පහළවීම. ඒ බුදුරජාණන් වහන්සේ ලෝකයට පහළ වීම නිසා සතර අපා දුකින් නිදහස් වෙන සෝතාපන්න ශ්‍රාවකයො බිහිවෙයි. කෙලෙස් සන්තාප වලින් දුක් නොවිඳිනා සකදාගාමී ශ්‍රාවකයො බිහිවෙයි. කාමලෝකය ඉක්මවා ගියපු අනාගාමී ශ්‍රාවකයො බිහිවෙයි. සියලු සසර දුක් නසන රහතන් වහන්සේලා අර්හත් තෙරණිවරු බිහිවෙයි. ඒ බුදුරජාණන් වහන්සේට නමස්කාර වේවා. ඒ බුදුරජාණන් වහන්සේගේ ධර්මය තුළින් උපන්නා වූ ඒ උතුම් රහතන් වහන්සේලාට සුජාත රහතන් වහන්සේ ඇතුලු කොට ඒ උතුම්ම රහතන් වහන්සේලාට, ඒ වගේම ඒ අරහත් උත්තමාවියන්ට, සුන්දරී අර්හත් උත්තමාවිය ඇතුලු කොට ඒ සියලු අර්හත් උත්තමාවියන්ට නමස්කාර කරමින් වන්දනා කරමින් අපිත් අධිෂ්ටාන කරමු ලෝකයට මහාඇස වූ බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ ලෝකයට මහා ආලෝකය වූ බුදුරජාණන් වහන්සේගේ ශාසනය අපිටත් මුණගැහිලා තියෙද්දි මේ බුද්ධ ශාසනය තුළ පිහිට පිළිසරණ රැකවරණය සලසාගෙන දහම් මග දියුණු කරගෙන පින් රැස් කරගෙන අපිටත් මේ ගෞතම ශාසනයේ රහතුන් සැනසුනු නිවනේ සැනසෙන්න ලැබේවා, සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අපි අනුමෝදන් කරමු පින්වතුනි සියලු දෙවිවරුන්ට. සක්දෙවිඳු, සතර වරම් දෙවිවරු, සෙන්පති දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවියෝ සතුටින් පින් අනුමෝදන් වෙත්වා. දෙවියෝ පින් අනුමෝදන් වෙලා දිව්‍ය සැපයෙන් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ රැකවරණය උපකාරය පින්වත් හැමදෙනාට දෙවියෝ සළසත්වා. දෙවියෝ ද සංසාර දුකින් අතමිදෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කල උදාරතර පුණ්‍ය ධර්මය අපි හැමදෙනාගේම කල්‍යාණමිත්‍ර ගුරුදේවෝත්තම පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා, ගුරු දේවයන් වහන්සේ නිදුක්ව නිරෝගීව දීර්ඝායුෂ සම්පත්තියම ලබත්වා, මේ ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරගනිත්වා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද දවසේ ධර්ම දානය සිදු කරන පින්වතුන්ලාගේ නමින් මියපරලොව යන්නට යෙදුනා වූ ඥාතීන් වන කස්තුරි ආරච්චිගේ නිශාන් මේනක පුතණුවන්ට, කස්තුරි ආරච්චිගේ දොන් බස්තියන් පියාණන්ට, පල්ලියගුරුගේ සිල්ඩා මැණියන්ට, කස්තුරි ආරච්චිගේ සීලනාත වැඩිමහල් සහෝදරයාට මේ සියලූම පින් අනුමෝදන් වෙත්වා.

මියපරලොව ගියා වූ හේවාහල්පගේ සරනේලිස් අප්පුහාමි මාමණ්ඩිට, ඊශ්වරගේ බේබිනෝනා නැන්දම්මාට, හේවාහල්පගේ සෝමපාල මස්සිනාට, පියසේන ගාල්ලේපතිරණ මස්සිනාට මේ සියලූම පින් අනුමෝදන් වෙත්වා. පොලිස් දෙපාර්තමේන්තුවේ හිටපු සැරයන් 1997 නොවැම්බර් මාසෙ 17 වන දින මධ්‍යම කඳවුර පොලිස් ස්ථානයට අනුයුක්තව රාජකාරියේ නියැලී සිටියදී ත්‍රස්තවාදී වෙඩි ප්‍රහාරයකින් මියපරලොව යන්න යෙදූ එගොඩගෙදර දයානන්ද ඥාති පුතණුවන්ට මේ සියලූම පින්පෙත් අනුමෝදන් වෙත්වා. මියපරලොව ගියා වූ රෙශ්මිත ආදිත්‍ය දෙව්මිණ ගාල්ලේපතිරණ ඥාති මුණුපුරාට සහ වීරසේන කස්තුරිආරච්චි මස්සිනාට පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම අද ධර්ම දානය සිදු කරන්නා වූ ඒ සුපින්වතුන්ලාගේ පවුල් වල යම්තාක් මියපරලොව යන්න යෙදුනා වූ ඥාතීන් හිතමිත්‍රාදීන් වෙත්ද ඒ සියලු ඥාතීන්ට සියලු හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන් වෙලා ඥාතීන්ගේ පරලොව ජීවිත සැපයෙන් සැපයටම පත්වෙත්වා. අපගේ ඥාතීන්ටත් මේ දුක් සහිත සංසාර ගමනින් ඉතා ඉක්මණින් නිදහස් වෙන්න ලැබෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් ඥාතීන්ට පින් අනුමෝදනාව සිදු කරන්න. රැස් කරන්නට යෙදුනු උදාරතර පුණ්‍ය ධර්මය ධර්මදානය සඳහා දායකත්වයන් දැරූ අංක 06, මුවන්පැලැස්ස, සූරියවැව යන ලිපිනයේ පදිංචි පින්වත් කස්තුරි ආරච්චිගේ දයාරත්න මහත්මාට අනුමෝදන් වෙත්වා. හේවාහල්පගේ ප්‍රේමාවතී මහත්මියට අනුමෝදන් වෙත්වා. කස්තුරි ආරච්චිගේ ඉෂානි මේකලා දියණියට අනුමෝදන් වෙත්වා. චරිත් මධුසංක වීරසෝම බෑණනුවන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. පවුලේ හැමදෙනාට පින් අනුමෝදන් වෙලා පින්වතුන්ලා කරන කියන රැකී රක්ෂා ආදි කටයුතුත්, දූදරු මුණුබුරු මිණිබිරියන්ගේ අධ්‍යාපන කටයුතු ආදී හැම සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා. ජීවිත වලට සියලු යහපත, සියලු අභිවෘද්ධිය උදාවෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලා හැමදෙනාටත් ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ සෑම සියලු දෙනාටත් ඒ වගේම සුපින්වතුන්ලා හැමදෙනාට පින් අනුමෝදන් වෙලා හැමදෙනාට කිසීම කරදරයකින් බාධාවකින් තොරව ජීවිතයට හොඳට පින් කරගන්න ලැබෙත්වා. සුවසේම දහම් මග දියුණු කරගන්න ලැබේවා. මේ ගෞතම ශාසනය තුළ ඔබ සැමට ධර්මාවබෝධයෙන් සැනසෙන්න ලැබේවා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=UcvRZU0CmCk

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මාගේ වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද දවසේ මේ උතුම් සද්ධර්ම දේශනාව ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු ගැන කෙරෙන මේ සද්ධර්ම දේශනාවට අනුග්‍රහය දරනු ලබන්නේ ප්‍රංශයේ පදිංචි ජූලි මාසෙ 27 වන දින උපන්දිනය යෙදෙන ආදරණීය දියණියට නිරතුරුව කල්‍යාණමිත්‍ර ඇසුර ලැබේවා කියන අදහසින් සෙත් ප්‍රාර්ථනා කරමින් පින්වත් හල්ලින්න ලොකුගේ සෝමා මැණියන්, ඒ වගේම උපුල් කොඩිප්පිලි ස්වාමිපුරුෂයා, සචිදු සහ රේමි යන පුතුන් යන මේ පින්වතුන්ලා විසින් ඒ උපන්දිනය සමරන පින්වත් දියණියට පින්පෙත් අනුමෝදනා පිණිසයි අද දවසේ මේ උතුම් ධර්ම දේශනාවට දායකත්වයන් දරන්නෙ, ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු ගැනයි අපි ඉගෙන ගන්නෙ. අද දවසේ අපි කතා කරන්නේ පින්වතුනේ රන්කරුවෙකුගේ දියණිය වන සුභා තෙරණියගේ ගාථා. මේ සුභා තෙරණිය කියලා කියන්නෙ රජගහනුවර උපන්න කෙනෙක්. රජගහනුවර බොහොම ධනවත් සිටු පවුලකයි ඈ උපන්නෙ. හැබැවටම ඈ ලස්සනයි. රූපය ලස්සන නිසාම, රූපය සුන්දර නිසාම දුටුවන්ගේ සිත් ඇදබැඳගන්න තරම් ලස්සන නිසාම ඇයට නම යෙදුනා සුභා. මේ සුභා දියණිය තරුණ වයසට පැමිණෙනකොට, ඇයට තේරෙන වයසට එනකොට තුන්ලෝකාග්‍ර භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ රජගහනුවරට කලින් කලට වැඩම කරලා ධර්මය දේශනා කරනවා. බුදුරජාණන් වහන්සේ වැඩම කොට දහම් දෙසන දවසක රජගහනුවර මහා ජනකාය වෙනදාට වඩා වැඩි වැඩියෙන් බණ අහන්න එකතුවෙනවා. ඉතින් ඔය අතරට මේ සුභාත් එකතු වුනා. ඇය සුදු ඇඳුමකුත් ඇඳගෙන, ධර්මය ඇසීම පිණිස පේවෙලා

බුදුරජාණන් වහන්සේගේ බණ පද අහන්න යනවා. තුන්ලෝකාග්‍ර මහා කාරුණික ශාස්තෲන් වහන්සේ ජීවිතාවබෝධය පිණිස දේශනා කරන සද්ධර්මය අහගෙන ඉන්නකොට පළමුවෙනි ධර්ම දේශනාවෙන්ම ඒ කියන්නෙ මේ සුභාට තිබුනා ප්‍රඥාව. පළවෙනි දහම් දෙසුම අහගෙන ඉන්නකොටම ඈ සෝවාන් ශ්‍රාවිකාවක් බවට පත්වුනා. පළමු දම් දෙසුමෙන්ම ඇය ජීවිතාවබෝධය ලබාගත්තා. චතුරාර්ය සත්‍යය පිළිබඳව සත්‍ය ඥාණයට ඇය පැමිණුනා. දැන් බුදුරජාණන් වහන්සේගේ ධර්මය තුළ පිහිටි ශ්‍රාවිකාවක් ඇය. මේ සුභා ටික කාලයක් ඇය තමන්ගේ නිවසේ ගත කරනකොට ධර්මය මෙනෙහි කරනකොට ඇයට ගිහි ජීවිතේට තිබුනු බන්ධන ඔක්කොම නැතිව ගියා හිතින්. ඇයට දැන් ගෘහ වාසයි කියලා කියන්නෙ වදයක්. ඇය ටික දවසක් දෙමව්පියන්ට ඇවිටිලි කරලා දෙමව්පියන්ට මතක් කරලා අවසානෙ අම්මගෙයි තාත්තාගෙයි දෙන්නාගෙම හිත කැමැති කරගත්තා තමන්ගේ පැවිද්දට. සාමාන්‍යයෙන් ස්ත්‍රියාවකට පැවිදි වෙනවා කියන එකට අවසර පතන්න, අවසරය ලබාගන්න හරි අමාරුයිනෙ. විශේෂයෙන් සිටුපවුලක හොඳට සැපට හැදිච්ච් තරුණ දුවක්, ඇයට හරි අමාරු වුනා අම්මගෙයි තාත්තගෙයි අවසරය ලබාගන්න. නමුත් කොහොම වුනත් මේ සුභා තමන්ගේ තාත්තගෙයි අම්මගෙයි අවසරය අරගත්තා ගෞතම ශාසනයේ පැවිදිවීම පිණිස. මේ සුභාගේ තාත්තා කියලා කියන්නෙ රජගහනුවර හිටපු බොහොම ධනවත් රන්කරුවෙක්. ඒ නිසා තමයි ඒ ථේරීගාථා වල සුභා තෙරණියට රන්කරුවෙකුගේ දියණිය වන සුභා තෙරණිය කියලා යෙදෙන්නෙ. ඇය පැවිදි වුනා. පැවිදි වෙලා ඉතාම කෙටි කාලයයි, සියලු කෙලෙස් නැසූ අර්හත් උත්තමාවියක් බවට පත්වුනා, සුභා රහත් තෙරණින් වහන්සේ. මේ සුභා රහත් තෙරණින් වහන්සේ දවස් අටක් වගේ ඇතුලත තමයි පින්වතුනි අර්හත්වය පසක් කරන්නෙ. ඒ කාලෙ ඉතින් ආශ්චර්‍යයියි. මේ පැවිදිවුනා, පැවිදි වෙලා දවස් අටයි, රහත් තෙරණින් වහන්සේ නමක් වැඩ ඉන්නෙ. ඥාති සමූහයාට මේ සුභාගේ පැවිද්ද ආරංචි වෙනකොට ඉතින් දවස් අටක් විතර ගතවෙලා, ඔක කටින් කට යන්න එපැයි. ඉතින් එහෙම ගිහිල්ලා ඇගේ පැවිද්ද ආරංචි වෙච්ච ඥාතියෝ ටික ඔක්කොම කුලප්පු වුනා. සාමාන්‍යයෙන් එහෙම තියෙනවා අදටත්. අදටත් තියෙනවා ස්වාමීන් වහන්සේලා පැවිදි වෙද්දි වුනත් දෙමව්පියන්ගේ අවසරය ස්වාමීන් වහන්සේලාට ලැබෙනවා. දෙමව්පියෝ අවසර දුන්නත් ඥාතීන් අවසර දෙන්නැති අවස්ථා තියෙනවානෙ. ඥාතියො කැමැති නෑ, දැන් මේ සුභා තෙරණින් වහන්සේට වුනේ අන්න එහෙම සිද්ධියක්.

ඇ අම්මගෙයි තාත්තගෙයි අවසරය අරගෙන පැවිදි වුනා. පැවිදි වෙලා දවස් කිහිපයක් යනකොට ඥාති සමූහයාට ආරංචි වුනා අපේ ඥාති දුව මහණ වුනාලු. එහෙම කොහොම මහණ වෙන්න දෙන්නද මේ සිටු දුවට කියලා ඥාතීන්ට ටික ඔක්කොම කාණ්ඩෙ එකතු වෙලා ආවා. ඇවිල්ලා දැන් ඥාතියො නොයෙක් ඒවා කියනවා. ඇයි දුවේ මෙහෙම කරගත්තෙ, ඔයාට මොන දේක අඩුවක්ද, නොයෙක් නොයෙක් දේවල්. ඉතින් සුභා තෙරණින් වහන්සේට මේක හරි වදයක්. සුභා අර්හත් උත්තමාවි කියනවා මගේ පින්වත් ඥාතිවරුනි අනේ එහෙනම් දැන් වාඩිවෙන්නකො. කලබල වෙන්නේ නැතිව දැන් වාඩිවෙන්න. වාඩිවෙලා මං මේ කියන දේ හොඳට අහගන්න. මං මේ සම්බුද්ධ ශාසනයේ පැවිද්ද ලැබූ හැටි මං ඔබට කියන්නම්. සුභා රහත් තෙරණින් වහන්සේ ඔන්න ඔය කාරණය මුල් කරගෙනයි මේ ගාථා වදාළේ. තමන්ගේ ඥාතීන්ට තමන්ගේ පැවිද්ද ගැන කියූ කතාව. හරිම ලස්සනයි පින්වතුනි මේ කතාව. ජීවිතේ සම්බන්ධයෙන් අවබෝධයක් සහිත කෙනෙක් කල්පනා කරන විදිය, ධර්මය තුළින් ජීවිතාවබෝධය ලැබූ කෙනෙක් කල්පනා කරන විදිය, අපිට මේකෙන් ලස්සනට ඉගෙන ගන්න පුලුවන්. සුභා අර්හත් තෙරණින් වහන්සේ කියනවා, එතකොට මං හොඳ තරුණ වයසේ හිටියේ. සුදු ඇඳුමක් ඇඳගෙන බුදුසමිඳුන්ගෙන් සද්ධර්මය අසාගන්න මාත් ගියා. එතනදී අප්‍රමාදීව සිහිනුවණ යොමු කරනකොට මට ආර්ය සත්‍යය අවබෝධය ඇතිවුනා. ඒ උත්තමාවිය බණ ඇහුවේ ඒ ගිහි කාලයේම මුලින්ම බණ අහන්න ලැබිච්ච අවස්ථාවෙම බණ ඇහුවේ සවන් යුග යොමාගෙන. හොඳ සිහිනුවණින්, ධර්මයටම අවධානය යොමු කරගෙනයි ඇය බණ ඇහුවේ. බණ ඇසීමේදී, මේ බණ ඇසීම කියලා කියන්නෙ ඒක ශිල්පයක්, ඒක දක්ෂතාවයක්, ඒක කුසලතාවයක්, බණ අහනකොට වෙන වෙන ඒවා හිත හිත ඉන්නෙ නැතිව ධර්මයටම අවධානය යොමු කරන්න ඕන. එහෙම ධර්මයට අවධානය යොමු කරන කෙනාට තමයි ධර්මය තුළින් යම් ඵලයක් උපදවනවා නම් ඒ ඵලය ලැබෙන්නෙ. මොකක්ද පින්වතුනි ධර්මය තුළින් උපදවන ඵලය, ප්‍රඥාවයි. ධර්මය තුළින් උපදවා දෙන ඵලය ප්‍රඥාවයි. ඒ ප්‍රඥාව කියන එක ලබාගන්න නම් ධර්මය ඇසිය යුත්තේ සද්ධානො අරහතං ධම්මං නිබ්බාණ පත්තියා - කෙලෙස් නැසූ රහතුන් විසින් අර්හත්වය කරා පමුණුවන නිවන කරා පමුණුවන, සැනසීම කරා පමුණුවන ධර්මය දේශනා කරද්දි, සුස්සූසා ලබතේ පඤ්ඤං අප්පමත්තො විචක්ඛණො - ඒ ධර්මයට යම් කෙනෙක් මනාව සවන් යුග යොමු කරන්නේ වේද, සවන් යුග යොමු කරගෙන ආසාවෙන් බණ අහන්නේ වේද, ඔහුට ඒ ප්‍රඥාව ලැබෙන්නේය.

ඒ කෙනාටයි ප්‍රඥාව ලැබෙන්නෙ. ආසාවෙන් ධර්මය අහනවා නම් සිහි නුවණ යොමු කරගෙන ඒ ධර්මය නුවණින් මෙනෙහි කරනවා නම් ඒ කෙනාට ප්‍රඥාව උපදිනවා. ඉතින් මේ සුභා තරුණිය මුල්ම බණ පදය ඇහුවෙත් එහෙමයි. ඉතින් ඒ නිසා කියනවා මට ආර්ය සත්‍යය අවබෝධය ඇතිවුනා. එතන ඉඳලා මට කාමයන් ගැන ඇතිවුනේ අරතියක්මයි. අරති කියලා කිව්වෙ නොඇල්ම. කාමය කියන එක ගැන නොඇල්මක්ම ඇතිවුනා. තරුණ වයසේ හිටපු ඇයට ජීවිතේ ගැන ඇතිවුන අවබෝධය නිසා ඇය ජීවිතේ දුක කියන ආර්ය සත්‍යය දැකපු නිසා, චතුරාර්ය සත්‍යය අවබෝධය කියන්නෙ එහෙම එකක්නෙ පින්වතුනි, දුක කියන්නෙ ආර්ය සත්‍යයක්මයි කියලා දැක්කා. ඉපදීම දුකකි, නාකිවීම දුකකි, ලෙඩවීම දුකකි, මරණය දුකකි, ප්‍රියයන්ගෙන් වෙන්වීමත්, අප්‍රියයන් හා එක්වීමත් දුකකි. කැමැති දේ නොලැබීම දුකකි. ශෝක වැළපීම් දුක් දොම්නස් සුසුම් හෙළීම් යන මේ සියල්ලම දුකකි. සංක්ෂේපයෙන් කිව්වොත් පංචුපාදානස්කන්ධයෝම දුකකි. ඇය මේ දුක දැක්කානෙ. දුක දැක්ක ශ්‍රාවිකාවක්. දුක දැක්ක කෙනෙක් කාමය කියන එක ගැන ඇල්මක් ඇති කරගන්නෑ. ඒ කියන්නෙ මේ දුක උරුම කරගත්ත ජීවිතේ අපි දුක උරුම කරගත්තා කියලා අවබෝධ වුනොත් කෙනෙකුට ඒ කෙනා පින්වතුනේ කාමය කියන එකට ඇල්මක් ඇතිකරගන්නෑ. ඊළඟ දේ තමයි මේ දුක උරුම කරගත්ත සාංසාරික ගමනේ ඇතැම් අයට තරුණ වයසේදීම භයානක රෝග වැළදෙනවා. ඒ රෝග වැළදුනාට පස්සෙ පින්වතුනේ අපි අපේ ඇස් දෙකින්ම දැකලා තියෙනවා එක අවස්ථාවකදි මට හොඳට මතකයි තරුණ වයසේ හිටපු මට වඩා අවුරුද්දක් දෙකක් වැඩිමහල් ඒ අක්කට, අපි දන්න කියන අක්කා කෙනෙක්. පිළිකා රෝගයකට ගොදුරු වුනා. බොහොම ලස්සන රූපයක් තිබ්බ කෙනෙක්. ඒ පිළිකාවට ගොදුරු වෙලා එයට ප්‍රතිකාර කරනකොට ඇයට තිබුනා දිග කෙස් කළඹක්. ඒ කෙස් ටික ඔක්කොම යන්න පටන් ගත්තා. අවසානයේ ඇයට ටික දවසක් යනකොට සම්පූර්ණයෙන්ම කෙස් ඉවත් කරන්න සිද්ධ වුනා, මොකද හිසේ කෙස් තැනින් තැන තමයි ඉතුරු වුනේ. ඉතින් කෙස් ඔක්කොම ඉවත් කලාට පස්සෙ මුල් කාලයේ ඒ කෙස් ඉවත් කරපු මුල් කාලයේ අපිත් එක්ක කතාබහ කරන්න එනකොට ඇය වස්ත්‍රයකින් හිස වහගෙන එනවා. එහෙම ටික කාලයක් යනකොට ඇයට ඒක හුරුවුනා. ඊටපස්සේ ඇය වස්ත්‍රයකින් හිස වහන්නේම නැතිවම සාමාන්‍ය කටයුතු කරගත්තා. සාමාන්‍යයෙන් ඒ වයසේ ඉන්න තරුණියකට සැරසීම පිණිස යම් ආශාවක් තියෙනවාද ඒ ආසාවල් අර අක්කා තුළ දකින්න තිබුන් නෑ. ඇයි හේතුව, ඇයට දැන් ප්‍රකට වෙලා ජීවිතේ

තියෙන එක පැතිකඩක්. ලෙඩවෙනවා කියන කාරණය. තරුණ වයසේදීම දරුණු රෝගයකට අෑ ගොදුරු වුනා. ඒ ගොදුරු වුනාට පස්සෙ සාමාන්‍යයෙන් ඒ වයසේ තරුණ තරුණියො මත්වෙන දේවල් වලින් ඇයව මත් කරන්න බෑ, ඇයට ඒවාට හිත යන්නෑ, ඒ ජීවිතයට යම් ආපදාවක් රෝගී තත්වයක් කරදරයක් පැමිණි නිසා. සුභා තරුණිය කාමයන් ගැන අරතිය ඇති කරගත්තෙ ජීවිතය ගැන දැක්මකින්. ජීවිතය ගැන හරි දැක්මක් හරි අවබෝධයක් ඇයට ඇතිවෙච්චි නිසා. ඇය කියනවා එතන ඉඳලා මට කාමයන් ගැන ඇතිවුනේ අරතියක්මයි. පංචුපාදානස්කන්ධ ගැන නන්දිරාගයේ පැවතීම මං දැක්කෙ භයජනක දෙයක් හැටියට. මේ රූප වේදනා සංඥා සංස්කාර විඤ්ඤාණ කියන පඤ්චුපාදානස්කන්ධය කෙරෙහි යම් ඒ තෘෂ්ණාවක් තියෙනවාද, රාගයක්, ඒක දැක්කේ භයජනක දෙයක් විදියට. ඉතින් මං මහණ වෙන්න කැමැති වුනා. මේ ඥාතීන්ට කියන්නෙ මං මේ නිකං ආවට ගියාට පැවිද්දට ආස වෙලා මහණ වුනා නෙවෙයි. මං ජීවිතය ගැන අවබෝධයකින් දැක්මකිනුයි මේ මහණ වුනේ. අන්තිමේදී නෑදෑයින්වත්, දැසිදස්සන්වත්, කම්කරුවන්වත්, ඒ වගේම සරුසාර කුඹුරු වතුපිටිත්, සිත්කළු සිත් පුබුදුවන සැප සම්පත් ඔක්කොම මං අත්හැරියා. දැන් කෙනෙක් පැවිදි වෙන්න යනකොට ඥාති සමූහයාට පේන්නෙ මෙයා අපිව දාලා ගියා කියලා. නමුත් පැවිදි වෙන්න යන කෙනා, ඇසුරු කරපු ඥාතීන් හිතවතුන් ඔක්කොම හිතින් අත්හැරලා යන්නෙපැයි. ඇත්තෙන්ම දුෂ්කරම දේ කරන්නෙ එයා. තමන් ආදරය කරපු, තමන් හිතවත්ව හිටපු, තමන් ළඟින් හිටපු අය ඔක්කොම අත්හරිනවා. ඒ අයත් එක්ක තියෙන සමාගමය අත්හැරලා පැවිදි වෙන්න යනවා. දැන් එකල පැවිද්ද පින්වතුනේ මෙකල පැවිද්දටත් වඩා වෙනස්නෙ. එකල පැවිද්ද ගත්තොත් එහෙම පැවිදි වෙච්ච ඒ ස්වාමීන් වහන්සේලා, ඊළඟට භික්ෂුණීන් වහන්සේලා දහම් චාරිකාවේ හැසිරෙනවා කියල එකක් තියෙනවා. එතකොට ඔය ජම්බුද්වීපය පුරා ගම් නියම් ගම් සිසාරා වැඩම කරනවානෙ. එක තැනක ඉන්නවා කියලා එකක් නෑ, ආයෙ ඥාතීන් බලන්න එනවා කියලා නෑ, ඥාතියෝ කලින් කලට මේ කාලෙට ඥාතීන්ගේ උපන්දින වලට ඒ අයව සමීප වෙනවා කියලා එකක් නෑ. දුර ඈත වැඩම කරනවා. ඉතින් එතකොට ඥාති සමූහයා කෙරෙහි තියෙන හිත අතහරින්න ඕන පැවිදිවීම පිණිස. පැවිද්දට ආසා කරපු ඇය ඒ ඔක්කොම අත්හැරියා. ඊළඟට මහා ධනසම්පත් ඇතිව හිටපු තමන්ගේ ඒ පවුල් සංස්ථාවෙ යම් වතු පිටි, සිත්කළු සිත් පුබුදුවන සම්පත් යම්තාක් තියෙනවාද, ඒවා ඔක්කොම මේ තරුණ වයසේදී අත්හැරියා. මේ විදියට මං ගොඩාක් සැප

මසම්පත් අත්හැරියා. ඉතා පැහැදිලිව නිවන් මග පෙන්වාදෙන මේ ශාසනය තුළ මං මහණ වුනේ ශ්‍රද්ධාවෙන්මයි. ඒ නිසා මට ආයෙමත් රන් රිදී වැඩ කිරීම සුදුසු නෑ. මං පතමින් ඉන්නෙ නිවනමයි. මට රන් රිදී ආදියෙන් පලක් නෑ කියනවා. මං නිවන පතන කෙනෙක්. සංසිඳීම පතන කෙනෙක්. රන් රිදී බඩු අත්හැරියට පස්සෙ එයා ආයෙමත් ඒවා අරගත්තොත් ඒක එයාට වන ලොකු අත්වැරැද්දක්. මේ රන් රිදී ආදී ආභරණ ආදිය ගැන තියෙන බන්ධනය හිතින් අත්හැරියාට පස්සේ ආයෙමත් ඒවාටම හිත බන්දගන්නවා නම් ඒක එයාට ලොකු අත්වැරැද්දක්. ආර්ය සත්‍යය අවබෝදයට රන් රිදී උපකාර වෙන් නෑ. ඒක සැනසීමට හේතුවෙන්නෙත් නෑ. අනික ඒ දේ ශ්‍රමණයන්ට ශ්‍රමණ ජීවිතේට ගැලපෙන්නෙත් නෑ ඒක ආර්ය ධනයකුත් නෙවෙයි. රන් රිදී ආදිය බොහෝ තිබීම කියලා කියන්නෙ උතුම් ධනයක් නෙවෙයි. මොකද රන් රිදී කියලා කියන්නෙ වැනසී යන දේවල්. රන් රිදී කෙරෙහි තියෙන බන්ධනය තියෙද්දීම ඒ බන්ධනය සහිත කෙනා වැනසී යනවා කියන එකත් සිද්ධ වෙන එකක්. ඔය දෙකම වැනසී යන ස්වභාවයෙන් යුක්තයි. ඉතින් බන්ධනයකින් ඇති ඵලය මොකක්ද. දැන් අපි හිතමු අපි යම් රන් ආභරණයකට එහෙම නැත්නම් අපි යම් වස්තුවකට හිතින් ඇලෙනවා කියලා. අපිත් පින්වතුනේ අනිත්‍ය වෙලා යන ස්වභාවයෙන් යුක්තයි. අපිත් නාකි වෙනවා දිරනවා මරණය කරා යනවා. අපි හිත බැඳගන්න යම් භාණ්ඩ තියෙනවා නම් ඒවත් දිරාපත් වෙලා නැසිලා යන ස්වභාවයෙන් යුක්තයි. දෙකම නැසෙනවා. නැසෙන දෙකක් බැඳිලා. එතන මොන සැනසීමක්ද. ඒ නිසා අන්න ඒවට කියනවා අනාර්ය ධර්ම. ඒවා කොච්චර තිබුනත් ඒක ආර්ය නෑ. උතුම් නෑ. ආර්ය ධන කියලා කියන්නෙ මොනවාද. ශ්‍රද්ධා ධන. ශ්‍රද්ධාව කියන එකෙන් කෙනෙක් ධනවත් වෙනවා නම් එය උතුම් ධනයකි. ශ්‍රද්ධාව කියන එකෙන් ධනවත් වෙච්චි කෙනාට ඒ ධනය අහිමි වෙන්නේ නැත. සීල ධනං - සීලය යනු ධනයකි. සීල ධනයෙන් ධනවත් වෙච්චි කෙනාට ඒ ධනය අහිමි වෙන්නෙ නැත, අහිමි කරන්නද බැරිය. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා හිරි ධන - පවට ලැජ්ජාව ඇතිකරගැනීම යනු ධනයකි. ඔත්තප්ප ධන - පවට භය ඇතිකරගැනීම ද ධනයකි. ඊළඟට ශ්‍රැත ධන - ශ්‍රැත ධන කියලා කියන්නෙ දහම් දැනුම, ධර්ම ඥාණය ඇති කරගැනීම ද ධනයකි. ත්‍යාග ධනං - දන් පැන් පූජා කිරීමෙන් ඇති කරගන්නා ත්‍යාගයද ධනයකි. පඤ්ඤා ධනං - ප්‍රඥාව ද ධනයකි. මේ තමයි සප්ත ආර්ය ධන. මේ සප්ත ආර්ය ධන, මේ උතුම් ධන කෙනෙක් ගාව තියෙනවා නම් නසන්න බෑ. නැසෙන්නේ නෑ. අහිමිකරන්න බෑ, අහිමි වෙන්නේ නෑ. මරණයට පත්වෙලා

යනකොට අජේයයා අනුගාමිකො කියලා කියන්නෙ. අජේයය කියලා කියන්නෙ කාටවත් පැහැරගන්න බෑ අහිමි වෙන් නෑ. අනුගාමිකො කියලා කිව්වෙ තමන් අනුව යන හෙවනැල්ල වගේ, තමන් එක්කම එනවා. ඉතින් එහෙම ධනයක් නෙවෙයි කියනවා මේ රන්රිදී ආභරණ ආදිය. එයින් කරදෙන්නේ ලෝභකම ඉපදවීම විතරයි. අපිට ධන සම්පත් තියෙනකොට ඒ ධන සම්පත් වලින් අපිට මොකක්ද උපද්දන්නෙ, ලෝභකම උපද්දනවා. මෙච්චා අපේ වස්තුව, අපිට මෙච්චර ආභරණ තිබේ, අපිට මෙච්චර වතුපිටි තිබේ කියලා මේවා ගැන ලෝභකම ඉපදවීම තමයි කියනවා ඕවගෙන් කරලා දෙන්නෙ. අහංකාරකම ඉපදවීම විතරයි. අහවලුන්ට වඩා අපිට තියෙන්නේය කියලා අහංකාරකම උපදිනවා. ඊටපස්සෙ මුලාවෙනවා, කෙලෙස්ම වැඩෙනවා. සැක සංකා වැඩෙනවා. මේ වස්තු සම්භාර තියෙද්දි පින්වතුනේ හිතවත්කම් පවත්වන්න කොච්චර අමාරුද බලන්න. මේ වස්තු සම්භාර ගැන හිත බැඳිලා තියෙනකොට, හරියට සැක සංකානෙ. දැන් අපි හිතමු මනුස්සයෙකුගේ ගෙදර, ඒ ගෙදරක තියෙන යම් හොඳට පලදරපු ගහක්. ගෙදරක තියෙනවා මොනවාහරි හොඳට පලදරපු ගහක්. ඔය ගහ ගැන මනුස්සයෙක් ඔන්න පාරෙ යන ගමන් දැකලා ඒ ගෙදර මිනිස්සුන්ට කියනවා ෂා මේ සැරේ නම් හරි අගේට එලදරලා නේද, හරි ලස්සනයි. එහෙම කියනවා. එහෙම කිව්වට පස්සෙ නිකං ගෙදර මිනිස්සුන්ට ඒ වචනෙටත් සැක උපදින්නෙ නැද්ද, අප්පේ අර මනුස්සයා මෙහෙම කිව්වා. ඇස්වහ වත් වැදුනද දන්නෑ. එහෙම සැක උපදින් නැද්ද. හරී කරදරයක් මේ සම්පත් තියෙනකොට සැක සංකා නොයෙක් ඒවා එක්ක තමයි ඔළුව පුරවාගෙන ඉන්න සිද්ධ වෙන්නෙ. හැම කෙනාවම සැක කරනවා. හැමදේම සැක කරනවා. සැක සංකා තමයි හිතේ වැඩෙන්නෙ. ගොඩාක් කරදර ඇතිවෙනවා. ස්පීරසාර දෙයක් එතන ඇත්තෙ නෑ. මිනිස්සු ඕවට ඇලෙනවා, ඇලිලා ප්‍රමාද වෙනවා. සිත් කිළුටු කරගන්නවා, එකිනෙකාට විරුද්ධව නැගී සිටිනවා. බොහෝ කෝලහාල ඇතිකරගන්නවා. බලන්න සහෝදරයො සහෝදරයො, සහෝදරියො සහෝදරියො, සහෝදර සහෝදරියො එකට පුංචි කාලෙ එකටම නිදාගෙන හිටපු අය, එකටම සෙල්ලම් කරපු අය, ලොකු මහත්වුනාට පස්සෙ මේ ඉඩකඩම් වල සීමා මායිමට කොච්චර ප්‍රශ්නද. සමහර වෙලාවට තිබුනු සහෝදර බැඳීම් මොකුත් නෑ. සහෝදරයා සහෝදරයාට කොඩිවින කරනවා. නඩු යනවා, නොයෙක් ප්‍රශ්න. එකිනෙකා විරුද්ධ වෙනවා. එකට හිටපු යාළුවො. මේ මොකක්හරි වස්තුවක් හින්දා මෙන්න අහිමි වෙලා යන නැසිලා යන විනාශයට පත්වෙන මොකක් හරි දෙයක් නිසා අර විශ්වාසය

සම්පූර්ණයෙන් බිඳින් නැද්ද. මේ ඔක්කොම ධනසම්පත් නිසා, කාමය නිසා. ඔය කාමයන්ට බැහැගෙන ඉන්න උදවිය ළඟ දකින්න තියෙන්නෙ නොයෙක් වධබන්ධන විතරයි, නොයෙක් කෙලෙස්, හැඬීම් වැළපීම් විතරයි. නොයෙක් කරදර විතරයි. කාමයන් තුළ බැසගත්ත කෙනාට වදබන්ධන ආදියත් නොයෙක් කෙලෙස් වැඩීමත් හැඬීම් වැළපීම් ඕවා තමයි කියනවා උරුම වෙන්නෙ, කරදර ගොඩක්. ඉතින් ඔයාලා මගේ නෑදැයින් ළඟ ඉඳගෙනත් මගේ හතුරෝ පිරිසක් වගේ මාව කාමයටම යොදවන්න හදන්නෙ ඇයි. බලන්න ඒ උත්තමාවිය අහන දේ. අර ඥාතීන්ට කියනවා ඕගොල්ලො මගේ නෑයො. ඕගොල්ලො මගේ නෑයො වෙලා ඉඳගෙනත් හරියට හතුරො ටිකක් වගේ ඇයි කියලා අහනවා මේ උතුම් පැවිද්දෙන් මාව බැහැර කරවලා කාමයට යොදවන්න හදන්නෙ. ඇත්තටම ඥාතීන්ට මේ අවබෝධය නෑ. ඥාතියො හිතාගෙන ඉන්නෙ ධන සම්පත් පරිහරණය  කර කර මේ ගත කරන කාම ජීවිතය සැපයි කියලානෙ. රන් කහවනු වලින් ආස්‍රවයන් ක්ෂය වෙන්නෙ නෑ. කාමයන් තමයි සැනසීමට විරුද්ධ සතුරා. වධකයො, මිතුරෝ නම් නොවේ. ශෝක හුල් හිත්වලට බඳින්නෙ මේ කාමයන් තමයි. නොයෙක් ශෝක හුල් මේ හිත් වලට බඳින්නෙ කාමය විසින්. කාමයෙන් තමයි බන්ධනය හදලා දෙන්නෙ. කාමයෙන් බන්ධනය හදලා දුන්නට පස්සෙ පින්වතුනේ බන්ධන වලින් වෙන් වෙද්දි එතන ශෝකය තියෙන්නෙ. අපි ඥාති සමූහයා විදියට බැඳෙනවා. වෙන්වෙලා යනකොට උහුලගන්න බෑ දුකයි. අපි නොයෙක් නොයෙක් දේවල් වලට ආස කරනවා. වෙන් වෙලා යනකොට කැඩිලා බිඳිලා යනකොට දුකයි. කාම බන්ධනය නිසයි මේ අරගලය තියෙන්නෙ. ඉතින් ඔයාලා මගේ නෑදෑයින් වෙලා ඉඳගෙනත් මගේ හතුරෝ පිරිසක් වගේ මාව මේ කාමයටම යොදවන්න හදන්නෙ ඇයි. තේරුම්ගන්න මාව, මං හිස මුඩු කරපු දෙපට සිවුරක් පොරවාගෙන ඉන්නෙ මහණ වෙච්ච කෙනෙක්. ජීවත් වෙන්නේ ගෙයක් ගානෙ පිණ්ඩපාතෙ කරගෙන. පොරවන්නේ පාංශුකූල චීවර. ඉතින් මට ගැලපෙන්නේ ඒ වගේ පැවිදි පිරිකර විතරයි. මහා ඍෂිවරු දිව්‍ය මානුෂික හැම කාමයක්ම අත්හැරලා දානවා. උන්වහන්සේලා ඉන්නෙ නිවන කියන ක්ෂේම භූමියේ. විමුක්තියට පත්වුනු සිත් ඇතිව අචල සැපයට පත්වෙලායි උන්වහන්සේලා වැඩ ඉන්නෙ. කාමයන් සමඟ මගේ කිසිම ගණුදෙනුවක් නෑ. මට ඔය කාමයන් තුළ කිසිම ආරක්ෂාවක් පෙනෙන්නෙ නෑ. කාමයන් ඒකරාශී කරගත්තහම කාමයන් ගැන අවබෝධයක් නැති මනුස්සයාට හිතෙනවා මේක තමයි ආරක්ෂාව කියලා. හැබැයි අවබෝධයට පත්වෙච්ච උත්තමාවිය කියනවා මට

ඔය කාමයන් තුළ කිසිම ආරක්ෂාවක් පේන නෑ, කාමයන් කියන්නෙ මිතුරන් පිරිසක් නම් නොවේ. කාමයන් කියන්නෙ වධකයො. ගිනිකඳු වගේ දුක් තියෙන්නෙ. මේ කාමයන් තුළ ගිනිකඳු වගේ දුක් තියෙන්නෙ. ඔය ගිනිකන්ද කියන එකේ ස්වභාවය පින්වතුනි ඇතුලේ ගිනි තියාගෙන උඩින් කන්ද විතරක් තියෙනවා. ගිනිකන්ද සක්‍රිය වෙන්න ළංවෙනකොට දුම දානවා. දුම දදා තිබිලා එකපාර පුපුරනවා. ඔය වගේ තමයි කාමය. බාහිරින් බලාපුවාම ලොකුවට හොයන්න බෑ. නොයෙක් ආකාරයෙන් බන්ධන ඇතිවෙනවා, ප්‍රියව බැඳීයනවා. බැඳී ගියාට පස්සෙ ඔන්න වෙන්වීම සහ ඒ බැඳීගියපු දේ වෙනස්වීම් හටගන්නකොට දුම දාන්න පටන් ගන්නවා. පස්සේ මහා වේදනාවක් දීලා හදවත පුච්චලා ඒක පුපුරලා යනවා. කාමයන්ගේ ස්වභාවය  එයයි. මේ කාමයන් කියන්නෙ බියක්මයි. කාමය තුළින් උපදවන්නේ භයමයි. ඇයි පින්වතුනි කාමය පරිහරණය කරනකොට අපි මේ කාම ලෝකයේ ඉන්න අයනෙ. අපිට වතුපිටි දේපල ආදී අජීවී කාමවස්තු තියෙනවා. ඥාති හිත මිත්‍රාදී සජීවී කාම වස්තු තියෙනවා. මේ කාම වස්තු පරිහරණය කරන අපිට හැමතිස්සෙම බයක් නැද්ද අපේ ඥාතියෝ ගැන අපිට බයක් තියෙනවා. අනේ ඒ අයට නම් මොකුත් වෙන්න එපා. ඒ අයට කරදරයක් වෙන්න එපා. ඔන්න දැන් කොරෝනා රෝගය පැතිරෙනවා. එතකොට අපිට හැමතිස්සෙම හිතේ තියෙනවා අනේ අපේ අයට මොකුත් වෙන්න එපා. අපේ අයට නම් මේකෙන් හානියක් වෙන්න එපා. වැළඳුනා කියලා ආරංචි වෙනවා. වැළඳුනා කියලා ආරංචි වුනත් අපි හදවතින් සෙත් පතනවා අනේ මේ ඒ වැළඳිච්චි මගේ ඥාතීන්ට මගේ හිතවතුන්ට අමාරු වෙන්න එපා, සුවපත් වෙන්න ඕන. මෙහෙම අපි හැමතිස්සෙම මේ කාමය නිසා හදවතේ බියක් ඇතිකරගෙන ඉන්නවා. කාමය කියන්නෙ කරදරයක්මයි. සැනසිල්ලක් නොවෙයි. කාමය කියන්නෙ පීඩාවක්මයි. සහනයක් නම් නොවෙයි. කාමය කියන්නෙ මහා වදයක්මයි. සුවපත් භාවයක් නම් නොවෙයි. කාමය කියන්නෙ අපිරිසිදු දෙයක්මයි, පාරිශුද්ධ දෙයක් නම් නෙවෙයි. පාරිශුද්ධ කියලා කියන්නෙ කාමයන්ගෙන් නික්මීම. කාමය කියලා කියන්නෙ අපිරිසිදු එකක්මයි. නොයෙක් කිළිටි සහගත අකුසල්, නොයෙක් කිළිටි සහගත ක්‍රියා කාමය නිසාම හටගන්නවා. කාමය කියන්නෙ විෂම දෙයක්මයි. කාමය කියන්නෙ මුලා කරවන දෙයක්මයි. කාමය කියන්නෙ ජනයාව රවටන ලොකුම දොරටුවයි. මේ කාමය කියලා කියන්නෙ ජනයාව රවට්ටන ලොකුම දොර කියනවා, රැවටිල්ල කියන එකට ඇතුල්වෙන්න තියෙන ලොකුම දොර. කාමය. කාමය කියන රැවටිල්ලේ ඉඳගෙන වුනත් ඒ

කාමය කියන එකට හසුවෙලා වුනත් අපිට මේ කාමය අවබෝධ කරපු මුණිවරුන්ගේ මුණිවරියන්ගේ සත්‍ය වූ වචන අහන්න ලැබෙනවා කියන්නෙ පින්වතුනි අපිට වාසනාවක්. මොකද ඒ සත්‍යයට අපි හිත පහදවාගත්තොත් ඒ චිත්ත ප්‍රසාදය අපිටත් උපකාර කරනවා, සත්‍යය දකින්න. සත්‍යයට මේ ජීවිතේ හිත පහදවනවා කියන එක අපිට මේ ජීවිතේම හෝ වෙනත් ජීවිතයක හෝ සත්‍ය දකින්න ඒකාන්ත කොට හේතුවෙනවා. ඒ නිසා මේ සත්‍යය වදාරන මුණිවරුන්ගේ මුණිවරියන්ගේ වචන ගැන හිතම පහදවන්න. මේ කාමයන් කියන්නෙ භයානක උවදුරක්. හරියට භයානක සර්පයෙකුගේ ඔළුව පැත්ත වගේ. භයානක සර්පයෙක් ගත්තොත් ඒ සර්පයාගේ භයානක සර්පයාගේ භයානකම පැත්ත මොකක්ද? හිස පැත්ත. කාමය කියන්නෙ අන්න ඒ වගේ උවදුරක් කියනවා. අන්ධ බාල පෘථග්ජන සත්වයන් මේ කාමයන් පිළිගන්නෙ හරිම ආසාවෙන්. කාම මඩගොහොරුවේ ඇලිලා ඉන්න මේ බොහෝ සත්වයන් අවිද්‍යා සහගතවයි ඉන්නෙ. මේ ඉපදෙන මැරෙන ලෝකයේ අවසානයක් ඔවුන්ට කවදාවත් දැකගන්න ලැබෙන් නෑ. කාමයන් එක්ක ඇලිලා ඉඳලා, කාමයන් එක්ක සතුටු වෙවී ඉඳලා කවදාවත් මේ සංසාරික ගමනේ අවසානයක් නෑ, කෙළවරක්, නිවනක්, ඒ අයට දැකගන්න නෑ. මිනිස්සු ඔය කාමයන් නිසා බැසගෙන ඉන්නෙ දුගතියට වැටෙන පාරවල් වල. ඕක තමයි කාමයේ තියෙන භයානකම පැත්ත. කාමයට හිත බැඳී ගියාට පස්සෙ ඒ ජීවිතේ කාමය පතාගෙන නොසරුප් දේවල් කරනවා. දැන් අපි බලන්න මේ රහත් තෙරණිවරුන්ගේ චරිතාපදාන ගැන ඉගෙන ගන්නකොට උනත් පටචාරා උත්තමාවියගේ චරිතාපදානය අපි ඉගෙන ගත්තා. මේ ජීවිතේම ඒ පටාචාරා උත්තමාවි මේ ජීවිතයේ අවුරුදු 16 තරුණිය වෙලා ඉන්නකොට මහා සිටුමන්දිරයක හිටපු කෙනා. ඒ සිටුමන්දිරයේ ඉද්දි, සිටුමන්දිරයේ දර පලපු තරුණයා කෙරෙහි හිත බැඳුනා. මේ මොකක්ද කාම බන්ධනය. හිත බැඳිලා. ඒ හිතේ හටගත්ත බන්ධනය ඒ කාම වස්තුව තමා සන්තක කරගන්න තියෙන ආසාව අර මහා සිටුසම්පත්තිය අත්හැරියානෙ. සිටුසම්පත්තිය අත්හැරලා අනේ මහා දුක්ඛිත ජීවිතයක් උරුම කරගත්තා. අවසානෙ තමන්ට දරුවො ලැබෙද්දි තමයි තේරුම්ගියෙ තමන් කරගත්තෙ මොන වගේ දෙයක් ද කියලා. අනේ අපේ දරුපැටවුන්ට යන කලදසාවක් තියෙන්න එපැයි කියලා තමයි ආයෙ දෙමව්පියෙ ළඟට එන්න සැරසුනේ. ඉතින් ඒ අවස්ථාවෙනෙ අර මහා විනාශය සිද්ධ වුනේ. ඔය වගේමයි කාමය පතාගෙන ඉන්න අය තමන්ට කාම වස්තුව හිමිකරගැනීම උදෙසා හිමිවෙච්චි කාම වස්තුව රැකගැනීම උදෙසා සිත, කය,

වචනය කියන තුන ඕන විදියකට හසුරවනවා. නොකළ යුතු දේත් කරනවා. නොකිව යුතු වචනත් කතා කරනවා. දැන් ඉඩකඩම් ආදියට නඩු ගියපුහාම කොච්චර බොරු කියනවාද, තමන්ගේ ඉඩම තමන්ගේ භූමිය තමන් රැකගන්න ඕන බොරුවක් කියනවා. මේ කියන්නේ මුසාවක්ද කියන එක ගැන අදහසක්වත් නෑ. උවමනා කරන්නේ තමන් අපේක්ෂා කරන විදියට නඩුව දිනන එක විතරයි. ඊටපස්සෙ කොච්චර තියෙනවාද, තමන්ගේ හිතින් රැස් කරගන්නා කුසල්. හිත මුල් කරගෙන රැස් කරගන්නා අකුසල් තමන් යම් දේකට කාම වස්තුවකට බැඳිලා ගියාට පස්සෙ මානසික අකුසල් රාශියක් හටගන්නවා. ඉතින් මේකෙ බලාගෙන ගියාම මහා කිළුටු සහගත ජීවිතයක් උපදින එක විතරයි අවසානෙ ඉතිරි වෙන්නෙ. මිනිස්සු ඔය කාමයන් නිසා බැසගෙන ඉන්නෙ දුගතියට වැටෙන පාරවල් වලමයි කියනවා. තම තමන්ට බොහෝ රෝග උපදවා දෙන කාමයන් තුළමයි ඔවුන් බැසගෙන ඉන්නෙ. තමන්ට බොහෝ රෝග උපදනවා කියලා කියන්නෙ මොකක්ද, කෙලෙස් රෝග. කාම සම්පත් වලට හිත් බැඳගෙන ඉන්න අයට සතුරෝම උපදවනවා. මොකද හේතුව අනිත් ඇයොත් කාමයන්ට ආස නිසා. කෙනෙක් ගාව ගොඩාක් ධන සම්පත් තියෙනවා නම් ඒ ධන සම්පත් තියෙන කෙනා ඒ ධන සම්පත් වල හිමිකාරයා බවට පත්වෙනකොට ඒ ධන සම්පතට ලෝභ කරන තව පිරිසක් ඉන්නවා. ඒ ඇයො හතුරො බවට පත්වෙනවා. සාමාන්‍යයෙන් මේ කාමය ගැන හිත මෙහෙම එකක් පින්වතුනි. මනුස්සයෙකුට යම් කාම වස්තු තියෙනවා නම් හොඳට ගෙයක් දොරක් හදාගෙන වාහනයක් අරගෙන පිළිවෙලකට මනුස්සයෙක් කාම වස්තු වලින් දියුණුවක් කරා යනකොට කාමයට ආසා කරන අනික් මිනිස්සුන්ට අනික් බහුතරයක් මිනිස්සුන්ට ඒක දරාගන්න බෑ, තමන්ට එච්චර කාම වස්තු නෑනේ කියන පීඩාවට ඒගොල්ලො පත්වෙනවා. ඒ පත්වුනාට පස්සෙ එක්කො තමන්ට ඒ කාම වස්තු හිමි කරගන්න වෑයම් කරනවා. එහෙම නැත්නම් මේ හිතේ තියෙන ලාමක බව කියන්නෙ ඒ කාම වස්තු පරිහරණය කරන කෙනාටත් ඒ කාම වස්තු හිමිවෙන්න එපා කියලා ඒ වගේ විනාශය පිනිස කටයුතු කරනවා. අනවින, කොඩිවින, හූනියම් මේ ඔක්කොම ඔතන තියෙන්නෙ. අනවින කොඩිවින කර කර මහා සංසාරයට මහා අර්බුද හදාගන්නවා කාමය නිසා. මොකද ඒවාගේ විපාක විදියට එන ප්‍රශ්න කොයි කොයි විදියට සංසාරයේ දිරවගන්න පුලුවන් වෙයිද කියලා අපිට කියන්න පුලුවන්කමක් නෑ. ඉතින් ඒ නිසා මේ කාරණය අපි හොඳට තේරුම් ගන්න ඕන. මේ කරුණ තේරුම් අරගෙන අපි කාමය පරිහරණය කළොත්

උපද්‍රව කරගන්නේ නැතිව, අනතුරු කරගන්නේ නැතිව කාමය පරිහරණය කරන්න අපිට අවකාශය ලැබේවි. ගිහි ජීවිතයක් ගත කරන පින්වතුන්ලා විදියට මේ ලාමක කාමයේ ස්වභාවය හොඳට තේරුම් ගන්න. ඒ තේරුම් අරගෙනයි අපි ජීවිතේ හසුරුවාගත යුත්තේ. එහෙම හසුරුවාගත්තොත් පින්වතුනි මේ අවුරුදු අසූව වගේ ටික කාලෙ ජීවිතේට හානියක් කරගන්නෙ නැතිව, ගුණධර්ම වලිනුත් ජීවිතය පෝෂණය කරගෙන ලස්සනට ජීවිතේ හදාගන්න පුලුවන් වෙයි. කාමය විසින් බිහි කරන්නෙ හතුරෝ. දුක් තැවුල් ඇති කරවනවා. සිත කිලුටු කරවනවා. ලෝකයා පිනවන එකම අරමුණ බවට පත්කරවනවා. කෙලෙසුන්ට බන්දවනවා. අවසානයේ මරණයටත් බන්දවනවා. මේ කාමයන් විසින් පිස්සු හදවනවා. උමතුවෙන් දොඩවන්න සළස්වනවා. සිත් කළඹවලා දානවා. සත්වයන් කෙලෙසලා දානවා. මාරයා විසින් අටවපු උගුලක් වගෙයි මේ කාමය. මේ කාමය කියලා කියන්නෙ සත්වයන්ට පිස්සු හදවන උමතුව හදවන දෙයක්. දැන් ඇතැම් වෙලාවට බලන්න තරුණ තරුණියෝ හාදවෙනවා. ප්‍රේම සම්බන්ධතා ඇති කරගෙන ඔවුන් ප්‍රේම සම්බන්ධතාවය තද බන්ධනයක් බවට පත්වෙලා ඕක ආරංචි වෙනවා ගෙවල් වලට. ආරංචි වෙලා ගෙවල් වලින් විරුද්ධ වෙනවා. විරුද්ධ වුනාට පස්සෙ මෙහෙම සිද්ධි අපි අහලා නැද්ද කොච්චරවත්, දෙන්නාම වහකාලා මැරෙනවා. එක්කො දෙන්නාම එල්ලිලා මැරෙනවා. කාමය වෙනුවෙන් මරණය තෝරගන්නවා. පිස්සු හැදෙනවා. උමතු වෙනවා. කාමය පතාගෙන අපිට මේ ජීවිතේ හම්බෙන්න බැරි නම් ලබන ජීවිතේක හරි හම්බෙනවා කියලා දෙන්නාම එකට එල්ලිලා මැරෙනවා. කාම අරගලය. මේ කාමයන් තුළ අනන්ත ආදීනව තියෙනවා. බොහෝ දුක් තියෙනවා, බොහෝ විස තියෙනවා. ආශ්වාදය තියෙන්නෙ චුට්ටයි. නමුත් ගොඩාක් රාගය ඇතිකරවනවා. කුසල් දහම් වියළවලා දානවා. මේ කාමයන් නිසා හටගන්න මහා දුක් ගොඩ ජේනකොට කාමයන්ගේ පැත්තට නම් ආපහු හැරිලා යන්නෑ. ඥාතියො ආරාධනා කරනවා කාමය පැත්තට ආපහු හැරී එන්න කියලා. ඒ උත්තමාවි කියනවා කාමයන්ගේ ආදීනව දකින කෙනෙක් ආයෙ කාමයන් පැත්තට නම් හැරිලා යන්නෙ නෑ. මං හැමදාම නිවනේ ඇලිලයි වාසය කරන්නෙ. මං කැමැති අර්හත්වයටයි. කාමාසාව මං අත්හැරියා. සියලු බන්ධනයන් මං නැති කරලා මං අප්‍රමාදීව ඉන්නෙ. මේ වෙනකොටත්, මේ ගාථා පද කියනකොටත් ඒ උත්තමාවිය කාමයන්ගේ ස්වභාවය අවබෝධ කරගෙන කාමයන්ගෙන් නිදහස් වෙලා නිර්වාණ සුඛයේ සැනසිච්චි උත්තමාවියක්. ධර්මයේ හැසිරී අප්‍රමාදීව යමක් කරගත යුතුයිද ඒ දේ මේ වෙනකොටත් ඒ

උත්තමාවි කරගෙන. මහා ඍෂිවරුන් සසරින් එතෙරට වැඩියේ ඒ මාර්ගයේමයි. ඉතින් මාත් ඒ ශෝක නැති කෙලෙස් නැති බියක් නැති ඍජු මාර්ගය වන ඒ ආර්ය අෂ්ටාංගික මාර්ගයේම තමයි ගමන් කරන්නෙ. ඔන්න ඔය විදියට ඒ සුභා නම් වූ අර්හත් උත්තමාවිය, ඒ උත්තමාවිය ගැන අනික් රහතන් වහන්සේලා අනික් ඍෂිවරුන් හැඳින්වූයේ රන්කරුවෙක්ගේ දියණිය වන සුභා තෙරණිය කියලා. අන්න ඒ සුභා අර්හත් තෙරණින්වහන්සේ තමන්ගේ ඥාති සමූහයාට ඔය විදියට ධර්මය දේශනා කලා. අවසානයේ ඥාති සමූහයාටත් සැනසිලි මාවත මෙයය කියලා කියලා දුන්නා, මොකක්ද පින්වතුනි ලෝකයේ තියෙන සැනසිලි මාවත? ඒ සැනසිලි මාවත නම් ආර්ය අෂ්ටාංගික මාර්ගයමයි, වෙන එකක් නෑ. මේ ජීවිතයේ අපිට සැනසිල්ල කැමැති නම් අපි අප තුලම උපදවාගත යුතු සොඳුරු මාවත, සොඳුරු වැඩපිළිවෙල ආර්ය අෂ්ටාංගික මාර්ගයමයි. සම්මා දිට්ඨි, සම්මා සංකල්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි කියන මේ වැඩපිළිවෙල සීල, සමාධි, ප්‍රඥා වශයෙන් දියුණු කරන්න තියෙන වැඩපිළිවෙලමයි අපිට සැනසිල්ල උදාකරන්නෙ. ඒ නිසා කාමයන් පරිහරණය කරද්දි ගිහි ජීවිත ගත කරද්දි බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයො ශ්‍රාවිකාවො බවට පත්වෙච්චි ඔබත් මහන්සි ගන්න ඕන ටික ටික හරි ආර්ය අෂ්ටාංගික මාර්ගයේ උතුම් ගුණ දියුණු කරගන්න. ඒ උතුම් ගුණ දියුණු කරද්දි සීලය වශයෙන් තියෙන්න ඕන ටික අපිට පහසුවෙන් උපද්දවාගෙන දියුණු කරන්න පුලුවන්. ඒ නිසා මහන්සි ගන්න ටික ටික හරි ආර්ය අෂ්ටාංගික මාර්ගය කියන මේ උතුම් වැඩපිළිවෙලේ හික්මෙන්න. මොකද මෙයටයි සම්මා සම්බුදුරජාණන් වහන්සේ වදාළේ, බ්‍රහ්මයා නම් ජීවිතේ ශ්‍රේෂ්ටත්වය කරා පමුණුවන මාවත, ජීවිතයේ පිරිසිදු බව කරා පමුණුවන මාවත, ධර්ම යානාව, සද්ධර්ම යානාව අනුත්තර වූ සංග්‍රාම විජය වූ උතුම්ම යුද ජයග්‍රහණය. උතුම්ම යුද ජයග්‍රහණය කියලා කියන්නෙ මොකක්ද, ආර්ය අෂ්ටාංගික මාර්ගය ජීවිතය තුළ හදාගැනීම. මේ ජීවිතක් ඇතුලේ කරන්න තියෙන උතුම්ම යුද්ධය ආර්ය අෂ්ටාංගික මාර්ගයට පැමිණීම. ඒ උතුම් යුද්ධය ඒ දුෂ්කර යුද්ධය කලොත් එහෙම උතුම් ජයග්‍රහණය ලබන්න පුලුවන්. මොකක්ද උතුම් ජයග්‍රහණය, අමෘත වූ නිවන. ඒ නිවන සාක්ෂාත් කරපු සුභා රහත් තෙරණින් වහන්සේ ළඟට එක අවස්ථාවක සක්‍ර දේවේන්ද්‍රයා දෙව් පිරිස පිරිවරාගෙන පැමිණුනා. ඒ පැමිණිලා සක්‍ර දෙවියො මෙන්න මෙහෙම කියනවා. ඉමං පස්සත ධම්මට්ඨං සුබං කම්මාරදීතරං අනේජං උපසම්පජ්ජ රුක්ඛ මූලම්හි ජායතී - ධර්මයේ සිත පිහිටුවාගෙන ඉන්න මේ සුභා තෙරණිය

දිහා, රන්කරුවාගේ දියණිය දිහා බලන්න, ඇය ඉන්නේ තණ්හාවෙන් තොරව. අර්හත්වය ලබාගෙනයි ඇය ඉන්නෙ. ඇය ගස් සෙවණේ භාවනා කරනවා. සුභා රහත් තෙරණින් වහන්සේ මේ ගාථා වල කියනවා මෙහෙම. මං මහණ වෙලා අදට දවස් අටයි. ශ්‍රද්ධාවන්ත වූ සද්ධර්මය නිසා සුන්දර වූ උප්පලවණ්ණා භික්ෂුණිය තමයි මාව හික්මෙව්වෙ. මාරයාව බැහැර කරලා මාත් ත්‍රිවිද්‍යාව ලබාගත්තා. එතකොට සුභා තෙරණින් වහන්සේගේ කල්‍යාණමිතුරිය බවට පත්වුනේ, ධර්ම අවවාද ලබාදීපු කලණ මිතුරිය බවට පත්වුනේ උප්පලවණ්ණා රහත් තෙරණින් වහන්සේ. ඉතින් මාරයාව බැහැර කරලා මාත් ත්‍රිවිද්‍යාව ලබාගත්තා කියනවා. මේ සුභා භික්ෂුණිය දොස් රහිතයි, ණය රහිතයි, වඩන ලද ශ්‍රද්ධා ආදී ඉඳුරන්ගෙන් යුක්තයි, සියලු බැඳීම් වලින් නිදහස් නිවන් මග සම්පූර්ණ කරගෙන ඉන්නෙ. හරිම නිදහස්. දෙව්ලොව අධිපති සක්‍රයා දෙව් පිරිස පිරිවරාගෙන ඍද්ධියෙන් ඇවිදින් සුභා නැමැති රන්කරුවාගේ දියණියටයි ඒ වන්දනා කරන්නෙ. ඉතින් දෙවිවරුත් වන්දනා කරන ජීවිතයක් ඒ උත්තමාවියට උපදවාගන්න පුලුවන්කම ලැබුනේ බුදුරජාණන් වහන්සේගේ ශාසනය නිසා, ඇත්තෙන්ම පින්වතුනි භාග්‍යවතුන් වහන්සේගේ සද්ධර්මයට කියනවා සවණානුත්තරීය - අහන දේවල් අතරේ මනුස්සයෙකුගේ ජීවිතේ ශ්‍රේෂ්ටත්වයට පත් කරන දේ ධර්මයයි. ඊළඟට භාග්‍යවතුන් වහන්සේගේ ධර්මයට කියනවා සික්ඛානුත්තරීය - ඉගෙන ගන්න දේවල් අතරේ මනුස්සයෙකුගේ ජීවිතේ ශ්‍රේෂ්ටත්වයට පත් කරන දේ ධර්මයයි. ඒක කොයිතරම් සත්‍යයක්ද. මේ ලෝකයේ යම්තාක් සත්වයෝ ඉන්නවාද, යාවතා සත්තා වාසා - යම් තාක් සත්වයෝ වාසය කරන තැන් තිබේද, යාවතා භවග්ගං - යම්තාක් භවාග්‍රයෝ තිබෙත්ද, ඒතේ සෙට්ඨා ඒතෙ අග්ගා ලෝකස්මිං යදිදං අරහන්තු - ඒ සියල්ලට ඉහළින් ශ්‍රේෂ්ටව අග්‍රව වැඩහිඳින්නේ මේ ලෝකයේ රහතන් වහන්සේලාය. රහතන් වහන්සේලා රහත් තෙරණිවරු බිහි කලේ සද්ධර්මයෙන්. ඉතින් අපි අද ඉගෙන ගත්තෙ මේ ලෝකයේ ශ්‍රේෂ්ටත්වයට පත්වෙච්චි අර්හත්වය පසක් කරපු සුභා නම් වූ රහත් උත්තමාවිය ගැන. ඒ රහත් උත්තමාවිය අර්හත්වයේ හික්මවූ උප්පලවණ්ණා රහත් තෙරණියටත් සුභා නම් වූ රහත් තෙරණියටත් නමස්කාර කරමින් අපිත් අපේ හිත් තුළ අධිෂ්ටානයක් ඇති කරගනිමු, ජීවිතේ ශ්‍රේෂ්ටත්වය කරා පමුණුවන බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය මුණගැහිච්චි මේ ජීවිතේ අපිටත් කල්‍යාණ මිත්‍ර ඇසුරේ සුවසේ ගුණ දහම් දියුණු කරගන්නත්, සුවසේ සද්ධර්මයේ මාර්ගය දියුණු කරගන්නත් මේ ගෞතම ශාසනයතුළ චතුරාර්ය සත්‍යය අවබෝධයට

සුදුසු ආකාරයෙන් අපේ ජීවිත හැඩගස්වාගන්නටත්, ඒ රහතන් වහන්සේලා රහත් තෙරණිවරු නිවී සැනසුනු අමෘත නිවනේ සැනසෙන්නටත් අපට වාසනාව ලැබේවා. සාදු සාදු සාදු!!!

රැස් කරගන්න යෙදුනා වූ සියලු පුණ්‍ය ධර්මයන් පළමුකොට අනුමෝදන් කරමු සියලු දෙවිවරුන්ට, සක් දෙවිඳුන්, සතරවරම් දෙවිවරුන්, සෙන්පති දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවියෝ සතුටින් පින් අනුමෝදන් වෙත්වා. පින්වත් හැමදෙනාගේ ඉෂ්ටකාමී හිතකාමී දෙවිවරුන් පින් අනුමෝදන් වෙත්වා. ලංකාභූමිය සුරකින්නා වූ සුමන සමන් දෙව්රජ ප්‍රධාන සියලු දෙවියෝ පින් අනුමෝදන්ව සියලු දෙවිවරු දිව්‍ය සැපයෙන් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ රැකවරණ ධර්ම දානය සිදුකරන පින්වතුන්ලා ප්‍රධාන මේ සුපින්වත් හැමදෙනාට දෙවියෝ සළසා දෙත්වා. දෙවියෝද සසර දුකින් අතමිදෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කලා වූ උදාරතර පුණ්‍ය ධර්මයන් ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙත්වා. ගුරුදේවයන් වහන්සේ නිදුක්ව නිරෝගීව දීර්ඝායුෂ සම්පත්තියම ලබත්වා. මේ ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරගනිත්වා, සාදු සාදු සාදු!!! රැස් කරගන්න යෙදුනා වූ සියලුම පුණ්‍ය ධර්මයන් ජූනි මාසෙ 27 වන දින උපන්දිනය සමරන ප්‍රංශයේ පදිංචි ඒ පින්වත් දියණියට හල්ලිනලොකුගේ සෝමා මැණියන්ගේ ආදරණීය දියණියට මේ සියලු පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදය සැලසේවා. බුද්ධ රත්නයේ ධර්ම රත්නයේ සංඝරත්නයේ ආශිර්වාදය සැලසේවා. පින්පෙත් අනුමෝදන් වෙලා සතුටු වෙන සියලු දෙවි දේවතාවුන් වහන්සේලාගේ ආශිර්වාදය සැලසී නිරතුරුව ජීවිතයට උතුම් වූ කල්‍යාණමිත්‍ර ඇසුරම ලැබෙත්වා. කිසීම කරදරයකින් බාධාවකින් තොරව සුවසේ සද්ධර්ම මාර්ගය දියුණු කරගන්න ලැබෙත්වා. ජීවිතේ කරන කියන සියලු කටයුතු සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා. සියලු යහපත උදාවෙත්වා. බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවිකාවක් විදියට මේ සම්බුද්ධ ශාසනයේ පිළිසරණ ලබාගන්න වාසානාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. රැස් කලා වූ සියලු පුණ්‍ය ධර්මයන් අද දායකත්වය දරන සුපින්වත් හැමදෙනාගේ නමිනුත් ඔබ හැමදෙනාගේ නමිනුත් මියගියා වූ සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට මේ පින් අනුමෝදන් කරමු. ඥාති හිතමිත්‍රාදීන්ව නම්ගොත් වශයෙන්, කුලගොත් වශයෙන් සිහියේ නගාගෙන පින් අනුමෝදන් කරන්න. සියලු ඥාතීන්ට පින් අනුමෝදන්ව ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා. අපගේ ඥාතීන්ට සසර දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබෙත්වා කියන අදහසින් පින්

අනුමෝදනාව සිදු කරන්න. අද ධර්ම දානය සිදු කරනු ලැබුවේ පින්වත් හල්ලින්නලොකුගේ සෝමා මැණියන්, උපුල් කොඩිප්පිලි මහත්මයා, සචිඳු සහ රේමි යන පුතුන් ඇතුලු ඒ පින්වත් හැමදෙනා, සමරකෝන් පවුලේ සුජීවත්ව සිටින සියලු දෙනාට මේ සියලු පින්පෙත් අනුමෝදන්ව නිදුක් නිරෝගී සුව සැලසේවා. දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. තුෂාරි වනිගසේකර සහ ඉෂාරි වනිගසේකර යන දියණිවරුන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ඒ පවුල් වල සෑම සියලු දෙනාටත් පින් අනුමෝදන් වෙත්වා. ධර්ම දානය සිදු කරන සියලු දෙනාට මේ සියලු පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදයෙන් රත්නත්‍රයේ ආශිර්වාදයෙන්, සියලු දෙවියන්ගේ ආශිර්වාදයෙන් සියලු යහපතම සැලසේවා. ජීවිත වල කරන කියන රැකී රක්ෂා ආදී සියලු කටයුතු සර්වප්‍රකාරයෙන් සාර්ථක වෙත්වා. ඒ දූදරුවන්ගේ මුණුබුරු මිණිබිරියන්ගේ අධ්‍යාපන කටයුතු ආදිය සර්වප්‍රකාරයෙන් සාර්ථක වෙත්වා, කිසීම කරදරයකින් බාධාවකින් තොරව සුවසේ ජීවිත ගත කරන්න ඔබහැමදෙනාට වාසනාව ලැබෙත්වා. ධර්ම දානය සිදු කලා වූ සුපින්වත් හැමදෙනාටත්, ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ හැමදෙනාටත් සුපින්වත් ඔබටත් මේ ගෞතම ශාසනය තුළම ධර්මාවබෝධයෙන් සැනසෙන්න වාසනාව ලැබේවා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=DsQa5aK0IIA

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මාගේ වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද දවසේ ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු මේ උතුම් සද්ධර්ම දේශනාව සඳහා දායකත්වයන් දරනු ලබන්නේ පින්වත් මලිනි පවිත්‍රා දියණිය සහ මොහාන් අබේසිංහ පුතණුවන් විසින්. තමන්ගේ නමින් මීට මාස 2 ට පෙර මියපරලොව ගිය රාණි පුෂ්පිකා මෑණියන්ට පින්පෙත් අනුමෝදන් කරන අදහසිනුයි අද දවසේ මේ උතුම් සද්ධර්ම දේශනාව මේ විදියට විකාශනය කරන්න දායකත්වයන් දරනු ලබන්නේ. අද ධර්ම දේශානවේදී පින්වතුනි අපි අහන්නේ ජීවක අඹ වනයේ වාසය කරපු සුභා කියන අර්හත් තෙරණිය ගැන. මේ සුභා තෙරණියගේ පුවත ධර්මය අහන සැදැහැවත් පින්වතුන් වහන්සේලා මීට පෙර අසා ඇති. සුභා තෙරණිය කියලා කියන්නෙ සම්බුද්ධ ශාසනයේ ඇගේ සිදුවීම ප්‍රකට කාරණාවක්. ඈ සල්ලාලයෙකුට තමන්ගේ ඇහැ උපුටලා දුන්නා. හැබැයි ඒ අර්හත් උත්තමාවියගේ ජීවිතේ අසිරිය තමයි ඒ ඇස උපුටා දුන්නේ ඈ අර්හත්වයට පත්වෙන්නත් පෙරයි. සල්ලාලයෙකුට තමන්ගේ ඇස උපුටා දුන්නේ ඇය අර්හත්වයට පත්වෙන්නත් පෙර. ඒ අසිරිමත් පුවත තමයි අද ධර්ම දේශනාවෙන් අපි අහන්නෙ. ඒ ඇස උපුටා දීපු සුභා තෙරණි තුවාල වුනු ඇසත් සහිතව බුදුරජාණන් වහන්සේ සමීපයට වැඩම කරනවා. භාග්‍යවතුන් වහන්සේව යම් මොහොතක දකිනවාද ඒ දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් සෝභමාන මහා කාරුණික බුදුරජාණන් වහන්සේව යම් මොහොතක සුභා තෙරණිය දකිනවාද, ඒ දකින මොහොතේම ඇගේ ඇස සම්පූර්ණයෙන්ම සුවපත් වුනා. තිබුනු අයුරින්ම ඇස සුවපත් වුනා. ඇයට තිබුනා නම් යම්තාක් වේදනාවෝ ඒ වේදනාවෝ සියල්ලම සමනයකට පත්වුනා. බුදුරජාණන් වහන්සේ ඇයට දහම් දෙසුවා. ඒ ධර්ම දේශනාව අසා සිටි ඇය අර්හත් උත්තමාවියක් බවට පත්වුනා, ඒ අර්හත් උත්තමාවි, සුභා අර්හත් උත්තමාවිය තමයි අර්හත්වයට පත්වෙලා මේ සිදුවීම කියන්නෙ. සුභා අර්හත් තෙරණියගේ ගාථා විදියට සඳහන් වෙන මේ සිදුවීම ඇය අර්හත්වයට පත්වුනාට පස්සෙ පැවසූ දෙය. බලන්න ඒ ගැන ඇය පවසන විදිය. ජීවක අඹ වනයේ වාසය කරපු ඒ උත්තමාවියට ජීවක අඹ වනයට වඩිමින් ඉද්දි තමයි මේ අකරතැබ්බයට මුහුණ දෙන්න සිද්ධ වුනේ. එදා සුභා තෙරණිය ලස්සන ජීවක අඹ වනය ඇතුලේ යමින් සිටියා. එතකොට සල්ලාල මිනිහෙක් ඇවිත් ඇගේ ගමන් මාර්ගය හරස් කරලා හිටගත්තා. සුභා තෙරණිය ඔහුට මෙහෙම කිව්වා. ආයුෂ්මත මං ඔබට මොකක්ද කරපු වැරැද්ද? මං යන ගමන් මාර්ගය අවුරාගෙන ඉන්නේ ඇයි? මහණ වෙච්චි තැනැත්තියක් විසින් පිරිමියෙක් ස්පර්ශ කිරීම කැප දෙයක් නම්

නොවෙයි. භික්ෂුණියක් විදියට පැවිදි වුනාට පස්සෙ පුරුෂයෙකුගේ ස්පර්ශය ලැබීම කැප දෙයක් නෙවෙයි. මේ සල්ලාලයාට කියනවා මං මොන වැරැද්දක් කරලාද ඔබට ඔබ මේ විදියට මගේ ගමන් මාර්ගය අවුරාගෙන ඉන්නෙ. මං ශාස්තෘ ශාසනය ගැන ඉතාම ගෞරවයෙන් ඉන්න කෙනෙක්. සුගතයන් වහන්සේ අපිට සිල් පද කියාදීලා තියෙනවා. මං ඒ සිල්පද පිරිසිදු විදියට ආරක්ෂා කරනවා. මං ගෙවන්නේ නිකෙලෙස් ජීවිතයක්. නිකෙලෙස් ජීවිතයක් ගෙවනවා කියලා කිව්වෙ මෙතන අර්හත්වයට පත්වුනා කියන එක නෙවෙයි. කෙලෙස් දුරු කර කර වාසය කරන ජීවිතයක්. කෙලෙස් ඇවිස්සෙන්නේ නැති විදියට ඉන්න උත්සාහ කරන ජීවිතයක්. අන්න එහෙම ජීවිතයක් ගත කරන්නයි මං මහන්සි ගන්නෙ. ඉතින් මං යන මාර්ගය අවුරාගෙන ඉන්නෙ ඇයි? ඔබට තියෙන්නෙ කැළැඹුණු සිතක්, මට තියෙන්නේ නොකැළඹුණු සිතක්. ඔබ කෙලෙස් සහිත කෙනෙක්, ඒත් මං කෙලෙස් රහිත, කෙලෙස් තියෙන හැමදේකින්ම නිදහස් වුන කෙනෙක්. ඉතින් එබඳු මං යන මාර්ගය අවුරාගෙන ඉන්නේ ඇයි? මේ සුභා තෙරණිය මේ වෙනකොට ඇය අනාගාමී ඵලය සාක්ෂාත් කරපු ආර්ය ශ්‍රාවිකාවක් බවට පත්වෙලා හිටියේ. ඇය අර්හත්වයට පත්වෙලා හිටියෙ නෑ. ඇය අනාගාමීයි. අනාගාමී ශ්‍රාවිකාවක් තුළ කෙලෙස් බන්ධනයෝ සිදී බිඳී ගිහින් තියෙනවා, ඕරම්භාගිය සංයෝජන සියල්ල. සංසාරයට බැඳලා තියෙන සංයෝජන බුද්ධ දේශනාව තුළ හඳුන්වන්නේ දස සංයෝජන විදියට. ඒ සංයෝජන දෙකට බෙදෙනවා උද්ධම්භාගිය සංයෝජන සහ ඕරම්භාගිය සංයෝජන. ඕරම්භාගිය සංයෝජන කියන්නෙ පින්වතුනේ සක්කායදිට්ඨිය, විචිකිච්ඡාව, සීලබ්බත පරාමාස, කාමරාගය සහ පටිගය. ධර්ම මාර්ගයේ හැසිරෙන ශ්‍රාවකයා සෝවාන් ඵලය සාක්ෂාත් කරද්දි ඕරම්භාගිය සංයෝජන වලින් තුනක් සම්පූර්ණයෙන්ම දුරුවෙනවා. සක්කායදිට්ඨියත්, විචිකිච්ඡාවත්, සීලබ්බත පරාමාසයත් සමුච්ඡේද වශයෙන්ම දුරු වෙලා යනවා, කැඩිලා යනවා. සකදාගාමී ඵලය සාක්ෂාත් කරනකොට ඉතුරු සංයෝජන දෙක වන කාමරාගය සහ පටිගය තුනී වෙනවා. අනාගාමී වෙද්දි කාමරාගය සම්පූර්ණයෙන්ම සමුච්ඡේද වශයෙන් දුරුවෙනවා. පටිගය සමුච්ඡේද වශයෙන් දුරු වෙනවා. ඕරම්භාගිය සංයෝජන පහම නැතිවෙලා යනවා. එතකොට මේ සුභා තෙරණිය මේ වෙනකොට ඕරම්භාගිය සංයෝජන පහම දුරු කරගත්ත අනාගාමී තෙරණියක්. ඈ තුළ රාගය නෑ. ඈ තුළ ද්වේෂයක් නෑ. ඒ නිසා මේ සල්ලාලයා මග අවුරාගත්තා කියලා ඈ කිපුන් නෑ. ඈ ඒ සල්ලාලයාට කියනවා ඔබ කෙලෙස් සහිත කෙනෙක්, මං කෙලෙස් රහිත කෙලෙස් තියෙන

හැමදේකින්ම නිදහස්වුනු කෙනෙක්. ඔබේ අභ්‍යන්තරයේ තියෙන ඔය ලාමක කෙලෙස් ස්වභාවයන් මං ගාව නෑ. ඉතින් එබඳු මං යන මාර්ගය අවුරාගෙන ඉන්නෙ ඇයි. එතකොට ඈ ගැන හිත බැඳිච්චි සල්ලාලයා කියනවා නෑ ඔයා තවමත් තරුණයි, ඔයා ලාමක නෑ. ඔය මහණ ජීවිතෙන් මොනවා කරන්නද, පැත්තකට දාන්න ඔය කසාවත, එන්න මේ මල් පිපී ගිය වනාන්තරයේ අපි කම්සැප විඳිමු. හැමතැනම හමායන්නේ මිහිරි සුවඳ තියෙන හුළඟ. මේ රුක් පඳුරු තියෙන්නෙ මල් රේණු වලින් හැදුනා වගේ. තවම මේ වසන්ත ඍතුවේ මුල් කාලය. හරීම සනීප දේශගුණයක්. ඉතින් එන්න අපි මේ මල් පිපී ගිය වනාන්තරයේ කම්සැප විඳිමු. අතු අග ලස්සනට මල් පිපිලා. සුළඟින් තාලෙට සෙලවි සෙලවි තියෙන්නේ හරියට සින්දු කියනවා වගේ. ඉතින් තනිපංගලමේ වනාන්තරයට ආපු ඔයා ආසා කරන්නෙ මොනවාටද. මෙහේ වන සත්තු ඉන්නවා. මද කිපිච්චි ඇත්තුත් ඉන්නවා. ඇතින්නියෝත් ඉන්නවා, මිනිස්සු කවුරුවත් නෑ, ඉතින් භයානක වනාන්තරයක තනිපංගලමේ යන්නද ඔයා කැමැති. ඔයා ගැන උපමා කියන්නත් බෑ, සිනිඳු කසී සළුවෙන් සරසපු රත්තරන් රූපයක් වගේ ඔයා, චිත්‍රරත වනයේ සරසපු රත්තරන් රූපයක් වගේ. චිත්‍රරත වනයේ ඉන්න දිව්‍ය අප්සරාවියක් වගේ, ඇත්තෙන්ම මං ඔයාට වශී වුනා. අපි මේ මහා වනාන්තරයේ එකතුවෙලා හිඳිමු. ඔයාට තියෙන්නේ ලස්සන කිඳුරියකගේ මදරස බැල්මක්. ඔයා තරම් මගේ හිත බැඳිලා ගිය වෙන කෙනෙක් මට නෑ. මේ සල්ලාලය හරි ලස්සන කවිකාරයෙක්. මෙයා අමුතු වර්ණනාවක් කරනවා, සුභා තෙරණින් වහන්සේගේ හිත ආකර්ශණය කරගන්න. ඉතින් ඔයා මං කියන දේ කරනවා නම් අපි අපේ ගෙදර යමු. අපි එහේ සතුටින් ඉඳිමු. හොඳට ජනේල තියෙන සුන්දර ගෙයක් ලැබෙනවා ඔයාට. ඔයාට උපස්ථාන කරන්න කාන්තාවොත් ඉන්නවා. එතකොට ඔයාට පුලුවන් සිනිඳු කසීසළු පොරවන්න, මල් සුවඳ විලවුන් වලින් ඔය සිරුර සරසන්න, රන් මුතු මැණික් වලින් කරපු ආභරණ වලින් ඔය ශරීරය සරසන්න පුලුවන්. ඒ නිවසේ තියෙනවා හොඳට සෝදලා දූවිලි ඉවත් කරපු උඩු වියන් තියෙන අලුත් ලොම් වලින් කරපු ඇඳ ඇතිරිලි දාලා හරි සනීප මෙට්ටයක් දාලා සඳුන් ලීයෙන් කරවපු ඇඳක්. ඔයාට පුලුවන් ඒ ඇඳේ සනීපෙට නිදාගන්න. දැන් මේ මොකක්ද, දැන් මේ ඔයාගේ ජීවිතේ හරියට රාස්සයෙක් අරක් ගත්ත මහනෙල් මල් පිපි විලක් වගේනෙ. ඔයාගේ ඔය බ්‍රහ්මචාරී සීලය නිසා ඔය ශරීරය කවුරුවත් පරිභෝග නොකරම ජරාවට පත්වෙලා යාවි. තරුණ වයසේ ඉන්න ලස්සන රූපයක් තිබුනු සුභා තෙරණියට සල්ලාලය කරපු වර්ණනාව, ඔහු කියනවා දැන් ඔයාගේ

ජීවිතේ හරියට රාස්සයෙක් අරක් ගත්ත ලස්සන මහනෙල් මල් විලක් වගේ. ඒ අදහස් කලේ රාස්සයා අරක් ගත්තා කියලා මහනෙල් මල් විලකට රාස්සයෙක් අරක්ගත්තොත් කොච්චර ලස්සන මානෙල් මල් පිපුණත් කඩාගන්න බැනෙ. ඒ වගේ මේ ලස්සන ස්ත්‍රී රූපය පුරුෂයෙකුගේ පරිභෝගයක් නොකරම විනාශ වෙනවා කියන අදහස, මේ බ්‍රහ්මචාරී සීලය නිසා. මේ කම්සැපයේ හිත බැඳිච්චි ලාමක පුරුෂයෙක් කියන කතා. ඒ ලාමක පුරුෂයාට යම් දෙයක් මහා වටිනවා වාගෙ පේනවාද, ඒ දේ සමුච්ඡේද වශයෙන්ම දුරු කරපු කෙනෙකුටයි මේ කියන්නෙ. යම් රාගයකින් මේ ලෝකයේ සත්වයෝ පිස්සු වැටෙනවාද, ඒ රාගය සමුච්ඡේද වශයෙන්ම දුරු කරපු උත්තමාවියකටයි මේ කියන්නෙ, ඉතින් ඒ උත්තමාවි කියපු කතාව බලන්න, කුණු ගොඩවල් පිරිලා තියෙන මේ ශරීරය ගැන අමුසොහොනම පුරවන මේ ශරීරය ගැන ඔබ ඔය විදියට සාර වශයෙන් දකින්නෙ කොහොමද? මේ ශරීරය ගැන ඒ සල්ලාලයා කියනවා රාස්සයො අරක් ගත්ත විලක් වගේ වෙලා දැන් ඔය ශරීරය, පුරුෂයෙක් පරිභෝග නොකරම ඔක ජරාවට පත්වෙයි, නාකි වීම ගැනත් මිනිහා කියනවා. ඔයා නාකි වෙනකොට ඔය ශරීරය පරිභෝග නොකරම නාකි වෙයි කියලා. නාකිවීම ගැන කියන්නෙත් රාගයෙන් බැඳිලා. නාකිවෙන්න කලින්, වැහැරෙන්න කලින් අපි කම්සුව විඳිමු. බලන්න මේ හිතක තියෙන ලාමක බව. නාකිවීම කියන එකත් පටලවාගෙන ලාමක දෙයක් කියනවා. ජීවිතේ ජරාවට පත්වෙනවා කියන එක පටලවාගෙනම ලාමක දෙයක් කියනවා. එතකොට ඒ උත්තමාවිය අහනවා, කුණු ගොඩවල් පිරිලා තියෙන මේ ශරීරය ගැන, කුණු ගොඩවල් කියලා කිව්වෙ පින්වතුනි පිළිකුල් සහගත දේවල් පිරී තිබෙන, දැන් අපි මේ වෙලාවේ මේ බණ පද අහනකොටත් අපේ ශරීරයේ පිළිකුල් දේවල් ගොඩාක් පුරවගෙනනෙ ඉන්නෙ. මේ වෙලාවේ අනුභව කරපු ආහාර, වමනයක් විදියට අපේ කුසේ තියෙනවා. ඊළඟට දිරවපු ආහාර අශූචි බවට පත්වෙලා අපේ සිරුරෙ තියෙනවා. බීපු වතුර මුත්‍රා බවට පත්වෙලා, දුගඳ හමන මූත්‍රා වශයෙන් අපේ ශරීරෙ තියෙනවා. ඊළඟට පිත සෙම, මේ හැමදෙයක්ම පිරිලා තියෙනවා. පිළිකුල් සහගත දේවල්, කුණු ගොඩවල් පුරවාගෙනයි මේ ශරීරය තියෙන්නෙ. අමුසොහොනම පුරවන මේ ශරීරය, යම් දවසක මේ ශරීරය අත්හැරලා යනකොටක මේ ශරීරයෙන් සිද්ධවෙන දේ තමයි සොහොන පිරවෙන එක. ඉතින් ඒක ගැන මෙච්චර සාර වශයෙන් ඔබ කොහොමද දකින්නෙ. බිඳීයන ස්වභාවයෙන් යුක්ත මේ ශරීරය ගැන දකිනකොට මට නම් ඇතිවෙන්නේ කලකිරීමක්මයි. බිඳී යන ස්වභාවයෙන් යුතු, වෙනස් වෙලා යන ස්වභාවයෙන්

යුතු ලෙඩරෝග උරුම කරගත්ත මේ ශරීරය ගැන ඇත්තවශයෙන්ම දකින්න ගත්තොත් මේක ගැන කළකිරීමක්මයි ඇතිවෙන්නෙ. ඇයි පින්වතුනේ මේ ශරීර කූඩුව නිසා කොච්චර විදවිලි ටිකක් අපි මේ ජීවිත කාලෙ විඳවනවාද, අපි හොඳට සිහි කල්පනාවෙන් ඉන්නවා නම්. වෙලාවකට මේකට කලන්තෙ. වෙලාවකට ඔළුව රිදෙනවා. වෙලාවකට බඩ රිදෙනවා. වෙලාවකට එහේ කහනවා, මෙහේ කහනවා, බිබිලි දානවා, නොයෙක් අරගල, නොයෙක් ප්‍රශ්න මේ ශරීර කූඩුව හින්දා අපිට නැද්ද. මේ ශරීර කූඩුව හින්දා ඒ ශරීර කූඩුව නිසා විඳව විඳවා ඉන්න මට නම් මේක මහා කළකිරීමක්මයි කියනවා. එතකොට සල්ලාලයාට මේක අහගෙන ඉන්න බෑ. සල්ලාලයාට තේරෙනවා තමන් කරපු වර්ණනාවට වසඟ වුනේ නෑ කියලා. තව කියනවා ඔයාගේ ඇස් දෙක මුව අඟනකගේ වගේ ලස්සනයි. කඳු අතරේ ඉන්න කිඳුරියකගේ වගේ ලස්සනයි. ඔයාගේ ඔය ඇස් දෙක දිහා මං බලාගෙන ඉන්නකොට මගේ හිතේ ඇතිවෙන්නෙ ආසාවමයි. ඔයා රත්තරනින් කරපු රූපයක් වගෙයි, ඔය මුහුණේ තියෙන ලස්සන ඇස් දෙක රතු මහනෙල් පෙති වගෙයි. ඔයාගේ ඔය ඇස් දෙක දිහා මං බලාගෙන ඉන්නකොට මගේ හිතේ ඇතිවෙන්නේ ආසාවමයි. දිගු දෑස් ඇති ඔයා, ලස්සනට පෙනෙන ඔයා, කිඳුරියකගේ වගේ මදක් පිබිදුනු ඇස් ඇති ඔයා කොයිතරම් දුර ගියත් මට ඔය ඇස් දෙක මතක් වෙනවා. මං ඔය ඇස් දෙකට තරම් වෙන කිසි දේකට ආස නෑ. මේ සල්ලාලයාගේ කවි, මේවා ගාථා විදියටනේ තියෙන්නෙ. එතකොට මේ ගාථා මේ විදියට බැඳපු මේ සල්ලාලයා හරි ලස්සන කවිකාරයෙක්, ස්ත්‍රියක් වර්ණනා කරන්න ඒ සල්ලාලයා පාවිච්චි කරපු කවි, සල්ලාලයා වුනත් ඒකාලෙ ස්ත්‍රියව වර්ණනා කරලා තියෙනවා හරි ලස්සන කවි බැඳීම් වලින්, වර්තමානයේ ඇයො සින්දු හදනවාට වඩා මේවා හරි හැඩයි. මේ ස්ත්‍රිය වර්ණනා කරන්න සල්ලාලයා පාවිච්චි කරපු වචන. ආයුෂ්මත, ඔබ වැරදි පාරකයි යන්න හදන්නෙ. සුභා තෙරණිය කියනවා, ආයුෂ්මත, ඔබට පාර වැරදිලා තියෙන්නෙ. ඔබ සඳ මඬලයි කෙළිබඩුවක් කරගන්න හදන්නෙ. ඔබ හරියට සඳත් එක්ක සෙල්ලම් කරන්න ආසා කරන පොඩි එකෙක් වගේ. පොඩි එවුන් අහසේ ගමන් කරන හඳ ඉල්ලලා අඬනවා වගේ ඔබේ ඔය කල්පනාව. ලබන්න බැරි දේකට ඔබ වෑයම් කරනවා. ඔබ මහාමේරු පර්වතය උඩින් පැනලා යන්නයි හදන්නෙ. යොදුන් අසූහාරදහසක් උසැති මහාමේරු පර්වතය උඩින් පැනලා යන්න හදනවා වගේ වැඩක් කියනවා ඔබ ඔය කරන්න හදන්නෙ. බලන්න පින්වතුනි ඒ විශාරද බව, ඒ නිර්භීත බව. තනිපංගලමේ ඉන්න ස්ත්‍රියක්. තනිපංගලමේ ඉන්න මේ භික්ෂුණිය ඔහුට

අර්ථයම කියනවා. මාව තේරුම් ගන්න ඔබ ඔය පතන මං බුදුරජාණන් වහන්සේගේ දියණියක්. මං තුළ රාගයක් ඇතිකරවන්න පුලුවන් කිසිම අරමුණක් මේ දෙවියන් සහිත ලෝකයේ නෑ. රාගය කියන එක සහමුලින්ම සිඳී ගිහිල්ලා. ඈ තුල රාගය කියන රෝගය, රාගය කියන කසටය, රාගය කියන ක්ලේශය ඇතිකරවන්න පුලුවන් කිසිම නිමිත්තක් මේ ලෝකෙ නෑ කියනවා. රාගය කියන්නෙ මොන වගේ දෙයක්ද කියලාවත් මං දැන් දන්නෙ නෑ. මේ සද්ධර්මයේ ආශ්චර්යයයි. මේ රාගය නැතිව උපන්න කෙනෙක් නෙවෙයි. රාගය සහිතව ඉපදිලා ඒ රාගය සද්ධර්මය තුල පිහිටා දුරු කලාට පස්සෙ ඒ උත්තමාවි කියනවා ඔබ ඔය කියන රාගය මොන වගේ එකක්ද කියලා මට තේරෙන් නෑ, එක අවස්ථාවක මේ ධර්මය තුළ තියෙනවා, ආනන්ද ස්වාමීන් වහන්සේගෙන් අහනවා එක බමුණෙක්, කෙලෙස් නැසූ රහතන් වහන්සේ හැම තිස්සේම මෙනෙහි කර කරද ඉන්නේ කියලා අහනවා මා තුල කෙලෙස් නැත්තේය, මා තුල කෙලෙස් නැත්තේය කියලා. එතකොට ආනන්ද මහරහතන් වහන්සේ ඒකට පිළිතුරු දුන්නා ආයුෂ්මත ඕක ගැන මෙහෙමයි තේරුම් ගන්න ඕන. අපි හිතමු අත් දෙකයි, පා දෙකයි සිඳපු අත් කකුල් දෙකම නැති එක පුරුෂයෙක් ඉන්නවා. ඒ පුරුෂයා අත් කකුල් දෙකම නැතිව ඉද්දි හැමතිස්සේම හිත හිතද ඉන්නෙ අහනවා, අයියෝ මගේ අත් දෙකත් නැත්තේය, අයියෝ මගේ කකුල් දෙකත් නැත්තේය කියලා? එතකොට අර බමුණා කියනවා, නෑ ස්වාමීනී එහෙම නෑ. හැමතිස්සේම ඉතින් ඒක හිත හිත ඉන්නෙ නෑ. හැබැයි යම් මොහොතක ඔහුට පුලුවන් නේද කියලා අහනවා අත සිහි කරන්න. ඔහු අත සිහි කරද්දි ඔහුට තේරෙනවා තමන්ට අත නැති බව. ඔහු කකුල සිහි කරද්දි ඔහුට තේරෙනවා තමන්ට කකුල නැති බව. අන්න ඒ වගේ අර්හත්වයට පත්වෙච්චි උත්තමයාට තමා තුළම දකින්න පුලුවන් කියනවා තමා තුළ ක්ලේශ කසට නැති බව. කෙලෙස් නැසූ අයට තමා තුළම දකින්න පුලුවන් කෙලෙස් නැති බව. දැන් මේ අනාගාමී උත්තමාවියට රාගය මුලින්ම දුරු කරදාපු රාගය සිඳබිඳ දාපු ඇයට තමා තුළම දකින්න පුලුවන් ඒ රාගය තමන් ගාව නැති බව. ඈ කියනවා ඒ රාගය කියන්නෙ මොන වගේ දෙයක්ද කියලාවත් මට තේරෙන් නෑ. නිවන් මාර්ගයේ ගමන් කරපු මං රාගය මුලින්ම නැති කරලා දැම්මා. නුවණින් කල්පනා නොකරන ගැහැණියක්ව නම් ශාස්තෘන් වහන්සේගේ ධර්මය තුලින් ජීවිතේ නොදැකපු ගැහැණියක්ව නම් අන්න එබඳු ගැහැණියක්ව නම් පොළඹවාගන්න පුලුවන් වේවි ඔබට. නමුත් ජීවිතය අවබෝධ කරපු මාවයි ඔබ ඔය වෙහෙසවන්නෙ. මට නින්දා අපහාස කලත්, මට වන්දනා කලත් ඒ සැප දුක්

දෙක අභියස මං සිහියෙන් ඉන්නෙ. ඇයව නින්දා අපහාස වලින් හෙලන්නත් බෑ, කීර්ති ප්‍රශංසා වලින් ඇගේ හිත මත්කරවන්නත් බෑ. මොකද ඒ මත්වීමක් ඇති කරවන යම් ක්ලේශ ඇත්ද, ගැටීමක් ඇතිකරවන යම් ක්ලේශ ඇත්ද ඒ ඔක්කොම ජීවිතෙන් දුරු වෙලා ගිහිල්ලා. බලන්න පින්වතුනි මේ සද්ධර්මය පුරුදු කලාට පස්සෙ ජීවිතේකට ඇතිවෙන පරිවර්තනය. කොච්චර සැනසිල්ලක්ද. නැත්නම් මේ සමාජේ ජීවත්වෙනකොට එක වචනකෙට පුලුවන්නේ අපිව කළඹවන්න. කැළඹෙන ජීවිත ඇතිව, කැළඹෙන හිත් ඇතිව, කැළඹීමට හේතුවෙන කෙලෙස් ඇතිව අපි ඉන්නවා. ඉතින් අපි වහා කැළඹෙනවා. ධර්මයක් තුළ පිහිටලා ඒ කැළඹෙන ස්වභාවයන් දුරු කරගත්තා නම් ඒක කොච්චර සැනසිල්ලක්ද. ඉතින් මේ තෙරණින් වහන්සේ, සුභා තෙරණිය කියනවා ඒ හේතූන්ගෙන් සකස් වෙච්චි දේවල් මං අසුභ වශයෙන් අවබෝධ කරගෙනයි ඉන්නෙ. ඔය කිසි තැනක මගේ හිත ඇලෙන්නෙ නෑ. මං සුගතයන් වහන්සේගේ ශ්‍රාවිකාවක්. මං ගමන් කරන්නෙ ආර්ය අෂ්ටාංගික මාර්ගය නැමැති යානයේ. මං රාග හුල් උදුරලා දැම්මා. ආශ්‍රව නැති කරලා දැම්මා. මගේ හිත ඇතුලේ තියෙන්නේ හිස් අවකාශය ඇති කුටිය විතරයි. ඔක්කොම අත්හැරලා දැම්මා කියනවා කෙලෙස්. ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ගමන් කරන සීල සමාධි ප්‍රඥා වඩන මගේ හිත දැන් ඇලෙන්නෙ හිස් අවකාශයේ ඇති කුටිය විතරයි. මං දැකලා තියෙනවා දර ලී වලින් හදපු ලස්සනට කැටයම් කරපු රූකඩ නූල් වලින් බැඳපු ඒ රූකඩ එක එක විදියට නටනවා. මේ දර ලී වලින් ලස්සන ලස්සන රූකඩ හදලා ඒ රූකඩ නූල් වලින් නටවනවා දකිනවා කියනවා. ඒ නූල් දර කැබලි ඔක්කොම කෑලි කෑලි වලට කඩලා දාලා තැනින් තැන විසුරුවලා දැම්මට පස්සෙ ආයෙමත් ඒ රූකඩ දකින්න ලැබෙන්නෙ නෑ. ඒ නටවපු රූකඩ ඔක්කොම විනාශ කරලා දැම්මාට පස්සෙ යළි රූකඩ පේන් නෑ කියනවා. ඒ රූකඩ වල කොයි කෑල්ලකට ද සිත පිහිටුවගන්නෙ. මේ ශරීරයත් රූකඩයක් වගේ තමයි. උපකාරක ධර්මයන්ගෙන් තොරව පවතින්නේ නෑ. උපකාරක ධර්මයන් නැතිව නොපවතින මේ ශරීරය කවර දේකටද සිත පිහිටුවාගන්නෙ. තරහකාරයෙක් බිත්තියක ඇඳපු චිත්‍රයක් වගේ. ස්ත්‍රී රූපයක් බිත්තියක ඇඳලා තියෙනවා. ඉතින් ඒක ඇත්ත මිනිස් ස්ත්‍රියක් හැටියට පිළි අරගෙන වැරදි විදියට හඳුනාගත්තු නිසයි කෙනෙක් ඒකට හිත බැඳගන්නෙ ඒ ගැන හැබෑ ස්ත්‍රියකගේ වේසයක් හිතක් ඔහු මවාගන්නවා. ඒ කරලා අර රූපෙ ගැනත් රාගය ඇති කරගන්නවා කියනවා. ඇත්තෙන්ම පින්වතුනි මේ කෙලෙස් කියන දේවල් චිත්ත

අභ්‍යන්තරයේ තියෙන තාක් විඳවිල්ලම විතරනෙ ඉතුරු වෙන්නෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය තුළ ශාස්තෲන් වහන්සේ පෙන්වලා දෙන්නේ කෙලෙස් හට ගන්න නිමිති අනුනිමිති මේ ලෝකෙ තියෙද්දීම කෙලෙස් දුරු කරලා දාන වැඩපිළිවෙල. බුදුරජාණන් වහන්සේ කාමය ගැන වදාරනකොට ඔය අර්ථය හරි ලස්සනට වදාළා. න තෙ කාමායානි චිත්‍රානි ලෝකෙ සංකප්ප රාගො පුරිසස්ස කාමො - බුදුරජාණන් වහන්සේ වදාළා මේ ලෝකෙ තියෙන විසිතුරු හිත් ඇදබැඳගන්නා දේවලට නෙවෙයි කියනවා කාමය කියන්නෙ. කාමය කියලා කියන්නෙ මේ ලෝකයේ තියෙන විසිතුරු දේවල් වලට නෙවෙයි. මේ ලෝකෙ ලස්සන රූප තියෙනවා මේ ලෝකෙ මිහිරි හඬ තියෙනවා. මේ ලෝකෙ ඉතා ප්‍රියමනාප වූ සුවඳ තියෙනවා. ප්‍රණීත රස තියෙනවා. සුමුදු පහස තියෙනවා, මේවා නෙවෙයි කියනවා කාමය. කාමය කියලා කියන්නෙ මොකක්ද, සංකප්ප රාගො පුරිසස්ස කාමො - ඒ ප්‍රිය රූප ගැන, ප්‍රිය ශබ්ද ගැන, ප්‍රිය සුවඳ ගැන, ප්‍රිය රස ගැන, ප්‍රිය පහස ගැන හිතින් ඇතිකරගන්නා බන්ධනයට තමයි කියනවා කාමය කියලා කියන්නෙ. තිට්ඨංති චිත්‍රානි තතේව ලෝකෙ අත්තිච්ච ධීරා විනයංති ඡන්දං - නුවණැති කෙනා කරන්නෙ සද්ධර්ම මාර්ගය තුළ පිහිටලා මේ බාහිර තියෙන රූප, ශබ්ද, ගන්ධ, රස, පහස කියන මේ අරමුණු ගැන හිතින් ඇතිවෙන බන්ධනය, ඒ සංකල්පී රාගය දුරු කරන එක කියනවා, ඒවා මෙහෙ එහෙම්මම තියෙනවා කියනවා. ඔහොම තමයි මුණිවරු මේ සංසාර ගමනින් නිදහස් වෙලා නිදහස් වෙලා ගියේ. අපි පටලැවිලා ඉන්න සාංසාරික ගමනින් මුණිවරයො, මුණිවරයො නිදහස් වෙලා ගියේ තමන්ගේ කෙලෙස් බන්ධනය කඩාගෙන, තමන්ගේ දෝෂය හදාගෙන. රාගයෙන් ඇවිස්සෙන දේවල් මේ ලෝකයේ කොතෙකුත් තිබේ. ඒ රාගයෙන් ඇවිස්සෙන දේවල් ඉස්සරහා ඇවිස්සෙන් නැති හිතක් හදාගන්නයි මහන්සි ගත යුත්තේ. ඒ උදෙසා බුදුරජාණන් වහන්සේගේ ධර්මය අපිට ඖෂධයක් විදියට අපිට මඟපෙන්වීමක් විදියට ශාස්තෘන් වහන්සේ ඉතිරි කලා. ද්වේෂයෙන් ඇවිස්සෙන දේවල් පින්වතුනි මේ ලෝකයේ තියෙනවා කොතෙකුත්. ද්වේෂයෙන් ඇවිස්සෙන දේවල් ඉස්සරහා ඇවිස්සෙන්නේ නැති හිතක් තමයි හදාගන්න ඕන. මුලාවට පත්කරවන දේවල් ඕන තරම් මේ ලෝකෙ තියෙනවා. මුලාවට පත්වෙන ඒවා ඉස්සරහා මුලා නොවන හිතක් හදාගන්නයි අපි මහන්සි ගත යුත්තෙ. ඒ උදෙසා තමයි බුදුරජාණන් වහන්සේ සද්ධර්මය දේශනා කලේ. නැත්නම් අපිටත් සිද්ධ වෙන්නෙ හරියට දක්ෂ කලාකාරයෙක් චිත්‍රයක් ඇන්දට පස්සෙ චිත්‍රෙ දිහා බලාගෙනත් රාගය ඇතිකරගන්නවා, අප්පේ ලස්සන කියලා.

ලස්සන ස්ත්‍රී රූපයක් දැක්කහම ඒ ස්ත්‍රී රූපය දිහා බලාගෙනත් පුරුෂයො රාගය ඇති කරගන්නවා හරියට මේක මේ සජීවී එකක් වගේ කියලා. අන්න ඒවගේ තමයි කියනවා මේ ලෝකෙ තියෙන ඒවාට රැවටෙන්නෙ. සුභා තෙරණිය කියනවා ඔබ අන්ධ කෙනෙක්. විජ්ජාකාරයෙකුගේ මායාවකට හසුවුනා වගේ සිහිනෙකින් රන්රුවක් දැකගත්තා වගේ, ජනතාව ඉන්ද්‍රජාලිකයෙක් මවා පෙන්වපු කැඩෙන බිඳෙන රූපයක් දැක්කා වගේ හිස් දේකටයි ඔබ අහුවෙලා ගියේ. මේ ස්ත්‍රී රුවට බැඳී යාම කියන එක ගැන ඒ උත්තමාවිය කියන්නෙ ඇත්තටම තමන් කෙරෙහි හිත බැඳගත්තු මේ පුරුෂයා ගැන, දැන් ඇයට පේන්නෙ ලාමක ස්ත්‍රී රුවකට හිත බැඳගත්ත අහිංසක පුරුෂයෙක්, අසරණ පුරුෂයෙක්. කෙලෙස් නිසා අසරණ වෙච්චි පුරුෂයෙක් ඇයට පේනවා. ඇය ඔහුට කියනවා ඔබ අන්ධයෙක්. ඔබ හරියට විජ්ජාකාරයෙකුගේ විජ්ජාවකට අහුවුනා වගේ මුලාවෙලා ගියා. මේ කුණප කොටස් වලින් පිරිච්චි කැඩිලා බිඳිලා යන ශරීරයකට ඔබ මත් වෙලා ගියා. වැහැරී යන ස්වභාවයෙන් යුත් ශරීරයකට ඔබ මත්වී ගියා. මරණය උරුම කරගන්නා ශරීරයකට ඔබ මත් වී ගියා. පින්වතුනි මේ මත්වීම මුලාවීම කියන එකනම් අපි හොඳට අර්ථ වශයෙන් නුවණින් කල්පනා කලොත් අපේ ශරීරයම අපිට ප්‍රකට කාරණාවක් අපේ ශරීරයේම කොච්චර පිළිකුල් සහගත දේවල් වලින් යුක්තයි ද, අපේ ශරීරයේම පිළිකුල් සහගත දේවල් වලින් යුක්ත වෙද්දි මේ සංසාරයට බර හිතක ස්වභාවය, අපි තවත් පිළිකුල් දේවල් වලින් යුක්ත වුනු ශරීරවලට ආසා කරනවා. අපේ ශරීරයම නොයෙක් රෝග පීඩා උරුම කරගත්ත එකක්. සාංසාරික ගමනක තියෙන මුලාවක ස්වභාවය. අපි තවත් ලෙඩවෙන ශරීර වලට ආසා කරනවා. අපේ ශරීරයම වැහැරී තියෙන එකක් බව අපිට කල්පනා කරද්දි තේරෙනවා. සාංසාරික ගමනක ස්වභාවය, මුලාවක ස්වභාවය අපි තවත් වැහැරෙන ශරීරයකට ආසා කරනවා, සමහර වෙලාවට ස්ත්‍රී පුරුෂ දෙන්නෙක් ආලයෙන් බැඳිලා ඔන්න අපි හිතමු ජීවිතයක් පටන් ගත්තා කියලා. ජීවිතය පටන් ගන්නෙ ලස්සන සිහින ලෝක ගොඩාක් තියාගෙන. ඒ ජීවිතේ පටන්ගෙන ටික කාලයයි, සමහර වෙලාවට ස්ත්‍රියට බරපතල රෝගයක් හැදෙනවා. එක්කො පුරුෂයාට බරපතල රෝගයක් හැදෙනවා. පණ පිටින් ඉද්දීම ශරීරය කුණු වෙන විදියේ රෝගයක් හටගන්නවා. එතකොට මේ උත්තමාවිය කියන කතාව සත්‍යයක් නේද. කුණු වෙලා යන ශරීරයකට නේද ඔය ආසා කරන්නෙ. බිඳී යන සිරුරකට නේද ඔය ආසා කරන්නෙ. වැහැරී යන සිරුරකට නේද ඔය ආසා කරන්නෙ. හරියට ජනතාව

මැද ජනතාව රවට්ටන්න ඉන්ද්‍රජාලිකයෙක් ලස්සන රූපයක් මවලා පෙන්වනවා, රන් රුවක්. ඒ ඉන්ද්‍රජාලිකයා මවා පෙන්වන රන්රුව කියලා කියන්නෙ මැජික් එකක්, ලබාගන්න බැරි එකක්. ඔබත් හරියට ඔය අහුවුනේ අන්න ඒ වගේ එකකට. ගහක  බෙනයක තියෙන ලාටු වගේ මේ ඇස් වල තියෙන්නෙ කඳුළු සහිත බුබුලක්. කබ කඳුළුත් එක්ක එකට මිශ්‍ර වෙලයි මේක තියෙන්නෙ. බලන්න ඇහැ ගැන ඈ දැක්ක විදිය. දැන් මේ සල්ලාල පුරුෂයා ඇගේ ඇහැ කොහොමද, කිඳුරියකගේ වගේ ඇස්. දිග ඇස්, මුවැත්තියකගේ වගේ ඇස්. ලස්සන නිල්පාට ඇස්. ඔය ඇස් දෙක කොච්චර දුරකට ගියත් මට නම් අමතක කරන්න බෑ කිය කිය කියපු ඇහැ ගැන ඈ දැන් කියනවා, මේ ඇහැ හරියට ගහක බෙනයක තියෙන ලාටු වගේ මේ ඇස්වල තියෙන්නෙ කඳුළු සහිත බුබුලක්. කබ කඳුළුත් එක්ක එකට මිශ්‍ර වෙලයි මේ ඇහැ තියෙන්නෙ. මේ ජීවිතේ ගැන ඇත්ත ඇතිසැටියෙන් දැකීම. මේ ජීවිතේ ඇත්ත ඇතිසැටියෙන් දැකීම ගැන මෙහෙම අහනකොට නුවණ මද කෙනෙකුට හිතෙන්න පුලුවන් අයියෝ මේවා ඍණාත්මක කල්පනා නේ. මේ විදියට හිතපුවාම ජීවිතේ සතුටින් ගතකරගන්න බෑනේ කියලා, ඒක ඉතින් නුවණ මද කමම තමා. මොකද නුවණින් දකින, ලෝකය නුවණින් දකින අය මේ ලෝකය ගැන හිතපු විදිය හරි පුදුම සහගතයි පින්වතුනි. අපි මීට පෙර මේ ධර්ම දේශනා මාලාවලදීම ඔබට කියලා දුන්නා ලකුණ්ඨකභද්දිය කියන තෙරුන්ගේ චරිතාපදානය. ලකුණ්ඨක භද්දිය කියන තෙරුන් වහන්සේ සාමාන්‍යයෙන් කැත ශරීරයක් තිබ්බ කෙනෙක්. ශරීරය ලස්සන නෑ. ශරීරයෙන් අවලස්සනයි, විරූපියි. ඊළඟට උන්වහන්සේගේ සාමාන්‍යයෙන් මිටි ස්වරූපයක් තිබුනා. උන්වහන්සේ දවසක් පිණ්ඩපාතෙ වැඩම කරනවා. පිණ්ඩපාතෙ වැඩම කරද්දි එක වේසාගෙයක් ළඟින්, ගණිකාවො වාසය කරන ගණිකාමඩමක් ළඟින් උන්වහන්සේ පිණ්ඩපාතෙ වැඩම කලා. එතන හිටියා, ඒ වෛශ්‍යාවො, වෙසඟනො ටික එළියට ඇවිල්ලා. ඇලා උදේම නාලා ලස්සනට කොණ්ඩෙ සැරසිලි කරලා මල් ගවසගෙන ලස්සන වස්ත්‍ර ආභරණ වලින් සැරසිලා පුරුෂයන් ආකර්ශණය කරගන්න ඉස්සරහට වෙලා ඉන්නවා. ඒ ඉඳිද්දි මේ ස්වාමීන් වහන්සේ පාත්‍රයත් අරගෙන වැඩම කරනවා, උන්වහන්සේගේ රූපය විරූපී නිසා අර ස්ත්‍රීහු ටික උන්වහන්සේ ගැන මොකක් හරි ඇනුම්පදයක් කියලා කොක්හඬලා හිනාවුනා. අර බලන්නකො කියලා මොකක් හරි පදයක් කියලා මේ ගොල්ලො ඔක්කොම විහිළුවක් කරලා හිනාවුනා. හිනාවෙන හඬට ලකුණ්ඨක භද්දිය තෙරුන් වහන්සේ ඒ පැත්ත හිස හරවලා බලනවා. බලද්දි මේ තෙරුන් වහන්සේට

පේනවා ඇලා හිනාවෙන ඇලාගේ දත් පෙල. ඒ දත්පෙල දකිනකොට උන්වහන්සේට එකපාර කල්පනා වුනා මේ කෙල තැවරිච්චි දත්ඇට නොවැ. බලන්න ඒ ජීවිතේ ගැන දැක්ක විදිය. සාමාන්‍යයෙන් හිනාව කියලා කියන්නෙ දසන් පෙන්වා සිනාසීම කියන්නෙ කෙනෙක් තව කෙනෙකුට වසඟ වෙන එකක්. සාමාන්‍යයෙන් ස්ත්‍රී පුරුෂයෝ ප්‍රේමයෙන් වෙලී යනකොට කියනවා, මං ඔයාගේ හිනාවට ආසයි, ඔයාට තියෙන්නෙ ලස්සන හිනාවක්. ඔයා හිනාවෙනකොට හරි හැඩයි, එහෙම කියනවා. එහෙම මුලාවෙන් බැඳී යන හිනාව ගැනම උන්වහන්සේ දකිනවා හිනාවෙද්දි අයියෝ මේ කෙළ තැවරිලා තියෙන දත් ඇටනෙ. එතනම ධර්මය අවබෝධ කලා උන්වහන්සේ. ආශ්චර්‍යයයි ජීවිතේ ගැන ඇත්ත දකිනවා කියන එක පින්වතුනි. අපි ගන්නවා මේ ලෝකෙ ලස්සනම දත්පෙළ, මේ ලෝකයේ ලස්සනම දත් ටික තියෙන යම් කෙනෙක් ඉන්නවා කියලා. ඒ කෙනාගේ දත් තමයි, ඒ කෙනාගේ දත් පිහිටීම තමයි ලෝකෙ ලස්සනම දත් පිහිටීම. ඒ කෙනාගේ දත්වලත් මොනාද තැවරෙන්නෙ. කෙල සෙමනෙ තැවරෙන්නෙ. වෙන ප්‍රණීත වූ දෙයක්, මිහිරි වූ දෙයක්, සුගන්ධ වූ දෙයක් තැවරෙන්නේ නැනෙ. මේ ලෝකෙ ලස්සනම ඇස් තියෙනවා කියලා හිතමු කෙනෙකුට. ඒ ලස්සනම ඇස් තියෙන කෙනාගෙ ඇස්වලිනුත් කබ කඳුළු ගලනවානෙ. මේ ලෝකෙ ලස්සනම කන් තියෙන කෙනාගෙ ඒ කණ ඇතුලෙනුත් එළියට එන්නෙ කණකාරළුනෙ. මේ ලෝකෙ ලස්සනම නැහැය කෙනෙකුට තියෙනවා කියලා හිතමු, ලස්සන නහයක්. ඒ ලස්සනම නහය තියෙන කෙනාගේ නහයෙනුත් එන්නෙ සොටුනෙ. මේ ලෝකයේ ලස්සනම ශරීරය මනාව අඟ පසඟ පිහිටි ලස්සනම ශරීරය තියෙන කෙනාගේ ඇඟෙනුත් දහඩිය, තෙල් මන්ද, උරුනුතෙල් මේවානෙ ගලන්නෙ. අශුචි මුත්‍රානෙ ගලන්නෙ. ශරීරයේ සත්‍යය ස්වභාවය මේක නොවෙයිද? ඒ තමයි ශරීරයේ සත්‍යය. ඉතින් ඒ උත්තමාවි මේ විදියට කිව්වා. ඒ විදියට කියලා එක පාරටම අර සල්ලාලයාට හිතාගන්වත් බැරි තරම් ඉක්මණින් ලස්සනට පෙනෙන ඒ සුභා තෙරණිය කිසිම දෙයකට ඇලුනේ නෑ. නිකෙලෙස් සිතකින් යුක්ත සුභා නිමේෂයකින් ඇගේ ඇසක් උපුටා ගත්තා. එක නිමේෂයකින්ම හිතාගන්නත් කලින් අපේක්ෂාවකින් තොරව තමන්ගේම ඇහැ උපුටලා අරගත්තා. තමන්ගේම ඇහැ තමන්ගේම අතින් උපුටලා අරගත්තා. මෙන්න ඔබේ ඇස අරගෙන යන්න කියලා ඒ මිනිහට දුන්නා. ඇහැ ගැනනෙ වර්ණනා කලේ. මට ඔයාගේ ඇස් දෙක තමයි අමතක කරන්නම බැරි. ඔය ඇස් දෙකට තමයි මං ගොඩාක් ආසා කිය කියා ඒකම මතුරපු නිසා මේ මනුස්සයාට ඇහැ ගලවලා දුන්නා. මෙන්න ඒ ඉල්ලපු ඇහැ.

මට පාඩුවේ ඉන්න දීලා මේ ඇහැත් අරගෙන යන්න කිව්වා. එතකොටයි මේ සල්ලාලයාට සිහි උපන්නෙ. ඒ ක්ෂණයෙහිම ඔහුගේ රාගය දුරුවෙලා ගියා. එතනම වැඳ වැටුනා. සුභා තෙරණියගෙන් සමාව ගත්තා. බ්‍රහ්මචාරී පින්වතිය, අනේ ඔබ සුවපත් වේවා. ආයෙමත් නම් මෙහෙම දෙයක් සිද්ධ වෙන්නේ නැහැ. මං ආයෙ ඔබතුමියට කරදර කරන්නේ නෑ කියලා භීතියට පත්වෙලා ලොමුඩැහැගැන්විලා ඒ සල්ලාල පුරුෂයා යන්න ගියා. ඉතින් මේ සල්ලාලයෙක් නිසා මෙහෙම දුකකට පත්වෙච්චි ඒ උත්තමාවිය වේදනාවෙන් ඉද්දි මේ සල්ලාලයා මෙහෙමත් කියනවා. මෙවැනි උතුම් කෙනෙක් එක්ක ගැටෙන්න ගියොත් ඒක දැල්වෙන ගින්න වැළඳගන්නවා වගේ වැඩක්. විසඝෝර සර්පයෙක් අතින් අල්ලනවා වගේ වැඩක්. සැපක් නම් ඇතිවෙන්නෙ නෑ, අනේ අපිට සමාවදෙන්න. ඒ පුරුෂයා සමාව ඉල්ලා හිටියා, හරි පුදුම සහගතයි පින්වතුනේ සම්බුද්ධ ශාසනය. මේ සුභා තෙරණියගේ හිත ඒ පුරුෂයා කෙරෙහි කිසිම අයුරකින් ගැටුනේත් නැහැ. ඒ පුරුෂයාගේ කිසිම වදනකට ඇලුනේත් නෑ. ඒ පුරුෂයාගෙන් නිදහස් වීමේ උවමනාව විතරක් ඇයට තිබුනා. ඇයි මේ පුරුෂයා ඒ උත්තමාවියට පාඩුවේ ඉන්න දෙන්නෙ නෑ. ඔහුගෙන් නිදහස් වීම උදෙසා විතරක් මේක කලා. ඉතින් ඒ භික්ෂුණිය ඒ සල්ලාලයාගෙන් නිදහස් වුනා. ශ්‍රේෂ්ට වූ බුදු සමිඳාණන් සමීපයට පැමිණුනා. උත්තම පුණ්‍ය ලක්ෂණ වලින් යුක්ත බුදුසමිඳුන් දකිනවිටම ඇගේ ඇස කලින් වගේම ප්‍රකෘතිමත් වෙලා සුවපත් වුනා. ඒ බුදුරජාණන් වහන්සේගේ පුණ්‍ය දේහ ලක්ෂණ වලින් යුක්ත සම්බුදු සිරුර දකිනවාත් එක්කම මහා කාරුණිකයන් වහන්සේගේ අනුහසින් ඒ උත්තමාවිය සුවපත් වුනා. තමන්ගේම ඇහැ තමන්ම උපුටලා අරගෙන යම් ශාරීරික වේදනා තිබුනා නම් ඒ වේදනා සියල්ල දුරු වෙලා ගියා. තමන්ගේම ඇස තමන්ම උපුටා ගැනීම නිසා ශරීරයේ යම් ගිලන් බවක් තිබුනා නම් ඒ ගිලන් බව නැතිව ගියා. යම් විකෘතියක් තිබුනා නම් ඒ විකෘතිය නැතිව ගියා. ඒ සුභා තෙරණිය කලින් හිටියා වගේම සුවපත් වුනා. ඒ සුවපත් වෙච්චි සුභා තෙරණියට මහා කාරුණික බුදුරජාණන් වහන්සේ එදා ධර්ම දේශනා කලා. සුභා තෙරණින් වහන්සේ ඒ බණ පද ආසාවෙන් අහගෙන හිටියා. ඒ බණ පද ශ්‍රවණය කරලා අවසන් වෙනවාත් එක්කම, ඒ ධර්මය නුවණින් යෝනිසොමනසිකාර කරපු ඒ උත්තමාවි සියලු කෙලෙස් නසා රහත් තෙරණින් වහන්සේ නමක් බවට පත්වුනා. ඒ සුභා අර්හත් උත්තමාවිය අර්හත්වයට පත්වුනාට පස්සේ තමයි මේ සියලු සිදුවීම මේ විදියට කියන්නෙ. සම්බුද්ධ ශාසනයේ ශ්‍රාවක සඟරුවන ගැන අපිට කොයිතරම් නම් පින්වතුනි හිත

පහදවාගන්න පුලුවන්ද මේ වගේ සිදුවීම් අහනකොට. හරිම පුදුමයි බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක භාවයට පත්වෙච්ච ඒ උත්තම උත්තමාවියන්ගේ චරිතාපදාන. බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක දරුවො නිසාම තමයි ඒ විදියේ අකම්පිත සිත් ඇත්තටම සුව විඳින සැප විඳින සිත් උපදවාගන්න පුලුවන් වුනේ. දැන් අපිට බුදුරජාණන් වහන්සේගේ මහා කාරුණික ශාස්තෘන් වහන්සේගේ අසිරිය බලන්න. සුභා තෙරණියගේ කතාව හරි දුක්බරයිනෙ. දැන් සුභා තෙරණියට සල්ලාලයාගෙන් නිදහස් වීම උදෙසා තමන්ගේම ඇහැ ගලවන්න සිද්ධ වුනානෙ. ඇත්තෙන්ම භාග්‍යවතුන් වහන්සේ නොහිටියානම් ඇගේ ඇස සුවපත් වෙන් නෑ. හැබැයි මහා කාරුණික ශාස්තෘන් වහන්සේ, බුදුරජාණන් වහන්සේගේ ඍද්ධියෙන් ඈ සුවපත් වුනා. සාංසාරික ගමනේ මේ අහසේ තරු පරදන තරම් ඇස් දන් දීපු උත්තමයන් වහන්සේගේ අනුහසින් ඇය සුවපත් වුනා. බුදුරජාණන් වහන්සේලා ආශ්චර්‍යයි, ඒවං අච්චින්තියා බුද්ධා - බුදුරජාණන් වහන්සේලා අචින්තනීය, සිතාගත නොහැකි ගුණ ඇත්තේය. සිතාගන්න බෑ පින්වතුනි ඒ බුදුරජාණන් වහන්සේගේ බාහිර රූප විලාශය පවා හිතාගන්න බැරි එකක්. බුදුරජාණන් වහන්සේ බඹලොවට වැඩම කරනවා දහම්දෙසන්න. බඹලොවට වැඩම කරලා භාග්‍යවතුන් වහන්සේ දහම් දෙසද්දි බඹලොව ආනුභාව ඇති බ්‍රහ්මයන්ගේ බ්‍රහ්ම සිරුර පරදවා සම්බුදු සිරුරම බබළනවා කියනවා. ආශ්චර්‍යයයි. ඒ දෙතිස් මහා පුරුෂ ලක්ෂණ වලින් සෝභමාන වෙච්ච සම්බුදු සිරුර පවා ආශ්චර්‍යයයි. බුදුරජාණන් වහන්සේ දෙව්ලොව දෙවියන් අතරට වැඩම කරලා දෙවියන් උදෙසා දහම්දෙසනවා. දෙවියන්ට දහම් දෙසද්දි දෙවියන්ගේ දේවානුභාවය පරදවලා බුදුරජාණන් වහන්සේම බබළනවා. ආශ්චර්‍යයි. ඉතින් ඒ ශාස්තෘන් වහන්සේ, ඒ බුදුරජාණන් වහන්සේ ගැන අපිට හිත පහදවාගන්න ලැබුනා කියන්නෙ, ඒවං අචින්තියා බුද්ධා බුද්ධ ධම්මා අචින්තියා අචින්තියේ සුපසන්නා නං විපාකො හොති අචින්තියො - ඒ බුදුරජාණන් වහන්සේ ගැන අචින්තනීය ගුණ ඇති ඒ බුදුරජාණන් වහන්සේ ගැන කෙනෙකුගේ හිත පැහැදුනොත් ඒ හිත පැහැදිච්ච කෙනාට ලැබෙන විපාකය ගැන මොකක්ද කියන්න තියෙන්නෙ, අචින්තියො - හිතාගන්න බැරිය. බුදුරජාණන් වහන්සේට පැහැදුනොත් බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් බවට පත්වුනොත් ඒ කෙනාට ලැබෙන සැප විපාකය හිතාගන්න බැරිය. ඒ නිසා හදාගන්න තියෙන්නෙ ශ්‍රාවකත්වයමයි. යානාති භගවා - ජීවිතයගැන සියල්ල දන්නේ බුදුරජාණන් වහන්සේමයි. අහං නජානාමි - මං මොකුත් දන්නා කෙනෙක් නෙවෙයි. සත්තා මේ භගවා - මාගේ ශාස්තෘන්

වහන්සේ බුදුරජාණන් වහන්සේමය. ශාවකො හමස්මි - මම වනාහි ශ්‍රාවකයා වෙමි කියලා ප්‍රසාදයම ඇතිකරගන්න පින්වතුනි, කෙලෙස් වලින් දුක් විදින, කෙලෙස් වලින් පීඩාවට පත්වෙන කෙලෙස් නිසාම සාංසාරික ගමනේ නොයෙක් නොයෙක් දුක් කම්කටොළු විදින මේ ජීවිත සම්පූර්ණයෙන්ම නිදහස් වුනේ බුදුරජාණන් වහන්සේ නිසා. ඉතින් කෙලෙස් වලින් පීඩා විද විද ගුටි කකා අපි මේ කාරණය තේරුම් ගන්නවා නම් බුදුරජාණන් වහන්සේගේ සරණ ලබාගෙන අපිටත් අවස්ථාවක් උදාවේවි මේ සාංසාරික ගමනේ දුක්ගැහැට වලින් නිදහස් වෙන්න. ඒ දුක්ගැහැට සියල්ලෙන් නිදහස් වෙච්චි සුභා රහත් තෙරණින් වහන්සේට නමස්කාර කරමින් අපිත් අධිෂ්ටාන කරමු අචින්තනීය ගුණ ඇති බුදුරජාණන් වහන්සේගේ සරණ ලබාගන්න ලැබිච්චි මේ දුර්ලභ මනුස්ස ජීවිතේ අපිත් බුදුසරණ ලබාගෙන, දහම් සරණ ලබාගෙන, සඟ සරණ ලබාගෙන සුවසේ දහම් මග දියුණු කරගෙන අපහටත් ඒ රහතන් වහන්සේලා, රහත් තෙරණින් වහන්සේලා සැනසුනු නිවනේ සැනසෙන්න ලැබේවා. සාදු සාදු සාදු !!!

රැස් කලා වූ සියලූ පුණ්‍ය ධර්මයේ සක්දෙවිදුන් සතරවරම් දෙවිවරු සෙන්පති දෙවිවරු ප්‍රධාන සියලු දෙවියෝ සතුටු සිතින් අනමෝදන් වෙත්වා. දෙවියෝ පින් අනුමෝදන්ව දිව්‍ය සැපයෙන් වැඩෙත්වා. ඒ හැමදෙවියන්ගේ ආශිර්වාද අප හැමදෙනාට දෙවියෝ සලසා දෙත්වා. දෙවියෝද සසර දුකින් අතමිදෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කරගන්න යෙදුනා වූ සියලූ පුණ්‍ය ධර්මයන් ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන්ව ගුරු දේවයන් වහන්සේ නිදුක්ව, නිරෝගීව, දීර්ඝායුෂ ලබත්වා. මේ ගෞතම ශාසනය තුලම උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! මීට මාස දෙකකට පෙර මියපරලොව යන්න යෙදුනා වූ පින්වත් රාණි පුෂ්පිකා මෑණියන්ට මේ සියලූම පින් අනුමෝදන් වෙත්වා. මේ පුණ්‍ය ධර්මයන් අනුමෝදන් වෙලා සාංසාරික ගමනේ සුගතිගාමී ජීවිත ලබන්නම මේ පින හේතු වේවා. ධර්ම මාර්ගය සුවසේම දියුණු කරගන්න අවකාශ ලැබෙත්වා. උතුම් චතුරාර්ය සත්‍යය අවබෝධය පිණිස ඒ මෑණියන්ට මේ සියලු පින් හේතු වාසනා වෙත්වා කියලා පින් අනුමෝදනාව සිදු කරන්න. ඒ වගේම තමන්ගේ නමින් මියගියා වූ සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන්ව අපගේ ඥාතීන්ගේ පරලොව ජීවිත සැපයටම පත්වෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනාව සිදු කරන්න. අද දවසේ ධර්ම දානය සිදු කරනු ලබන්නේ පින්වත් මලිනි පවිත්‍රා දියණිය සහ

මොහාන් අබේසිංහ පුතණුවන් විසින්. ඉතින් ඒ ධර්මදානය සිදු කරපු ඒ දියණියටත්, පුතණුවන්ටත්, බන්දුසේන පියාණන්ටත්, ඊතන් මුණුපුරා ඇතුලු පවුලේ සැම සියලු දෙනා හට මේ සියලු පින් අනුමෝදන්ව සියලු දෙනාට නිදුක් නිරෝග සුව සැලසේවා. දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ජීවිතේට නිරතුරුව උතුම් වූ කල්‍යාණමිත්‍ර ආශ්‍රයම ලැබෙත්වා. ධර්ම දානය සිදු කරපු පින්වතුන්ලාගේ ජීවිත වල රැකී රක්ෂා ආදී සියලු කටයුතු සර්වප්‍රකාරයෙන්ම දියුණු වෙත්වා. ජීවිතයට සියලු යහපත සැලසෙත්වා. දූදරු මුණුපුරු මිණිපිරියන්ගේ අධ්‍යාපන කටයුතු ආදියත් සර්වප්‍රකාරයෙන් සඵල වේවා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා රූපවාහිනී කාර්ය මණ්ඩලයේ සැම සියලු දෙනාටත්, සුපින්වත් ඔබ හැමදෙනාටත් මේ ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්න වාසනාව ලැබේවා. ඔබ හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=PrJvttMG900

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මාගේ වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අපගේ මහා කාරුණික භාග්‍යවත් අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ අපි සරණ ගියපු අපේ ශාස්තෘන් වහන්සේ අපේ ජීවිත වලට සියලු යහපත උදාකරගැනීම උදෙසාමයි මහා කරුණාවෙන් මේ සද්ධර්මය දේශනා කලේ. බුදුරජාණන් වහන්සේගේ ධර්මය තුළ භාග්‍යවතුන් වහන්සේ වදාළා අපේ කායික ක්‍රියාව වරදින්න දෙන්නේ නැතිව හදාගන්න විදිය. අපේ වාචසික ක්‍රියාව වරදින්න දෙන්නේ නැතිව හදාගන්න විදිය. අපේ මානසික ක්‍රියා වරදින්න දෙන්නේ නැතිව හදාගන්න විදිය

බුදුරජාණන් වහන්සේ ධර්මය තුළ දේශනා කලා. කායික ක්‍රියාවේ වැරැද්දක් විදියට බුදුරජාණන් වහන්සේ පෙන්නපු දෙයක් වැරදි කාම සේවනය. එහෙමත් නැත්නම් සල්ලාලකම. ස්වාමියා ඉක්මවා යාම. බිරිඳ ඉක්මවා යාම. මෙන්න මේ වැරදි කාමසේවනය කියලා කියන්නෙ වර්තමානය වෙනකොට බොහෝ දෙනෙක් සාධාරණීකරණය කරගන්න එකක්. නමුත් වැරදි කාමසේවනය කියන එක මේ කයකින් කෙරුනොත් ඒක කොච්චර භයානකද, ඒකෙ කොච්චර විපාක තියෙනවාද කියලා තේරුම් ගන්න නම් අපි බුදුරජාණන් වහන්සේගේ ධර්මයෙන්මයි එය බලන්න ඕන. ඉතින් අද ඉගෙන ගන්න මේ දේශනාවෙන් අපිට හොඳට දැනගන්න පුලුවන් වැරදි කාමසේවනයේ විපාක. අද මේ ධර්ම දේශනාව විකාශනය කිරීම සඳහා දායකත්වයන් එකතු කරන්නේ ජූලි මාසයේ 27 වෙනි දින අද දවසේ හතරවන උපන්දිනය සමරන පින්වත් අභිනු මිහිනිල පුංචි පුතාට සෙත් ප්‍රාර්ථනා කරන අදහසින්. නො.48/58, පැලවිලවත්ත පාර, මාලපල්ල, කොට්ටාව යන ලිපිනයේ පදිංචි පින්වත් දුමින්දිකා ගයත්‍රි මැණියන් යොහාන් චතුරංග පියාණන් කියන ඒ දෙමව්පියන් විසිනුයි අද ධර්ම දානය සිද්ධ කරන්නෙ. පින්වතුනේ ඒ අමානිවන් දුටු අර්හත් තෙරණිවරු ගැන ඉගෙන ගන්න මේ දේශනා මාලාවේ අද අපි කතා කරන්නෙ ඉසිදාසි නම් වූ රහත් තෙරණියගේ ගාථා. ඒ ඉසිදාසි තෙරණියගේ ගාථාවල සිදුවීම අපිට ඒ ගාථා ඇසුරෙන්ම ඉගෙන ගන්න පුලුවන්. ඒ ගාථා සඳහන් වෙන්නෙ මෙහෙම. කුසුම්පුරේ නමින් යුතු පාඨලීපුත්‍ර නගරය මේ මහපොළොවට ආභරණයක්. පාඨලීපුත්‍රයට කියපු නමක් කුසුම්පුරය. ඉතින් මේ ථෙරී ගාථාව ආරම්භ වෙනවා පාඨලීපුත්‍රය ගැන කියලා, මේ පාඨලීපුත්‍ර නගරය මහපොළොවට ආභරණයක් කියනවා. ඒ මහපොළොවට ආභරණයක් කියන්න හේතුව පින්වතුනේ ඒ කාලෙ භික්ෂූන් වහන්සේලා, භික්ෂුණීන් වහන්සේලා මහසඟරුවන මේ පාඨලී පුත්‍රයේ වැඩ හිටපු නිසා. ශාක්‍ය කුලයේ උපන් ගුණවත් භික්ෂුණීන් දෙනමක් ඒ නගරයේ ඉන්නවා. එක් භික්ෂුණියකගේ නම ඉසිදාසි. දෙවැනි සිල්වත් තැනැත්තියගේ නම බෝධි තෙරණිය. ඒ දෙන්නා ධ්‍යාන සැපයෙන් වාසය කරන්නෙ. බුදුසමිඳුන්ගේ ධර්මය ගොඩාක් අහලා තියෙනවා, ඒ වගේම නිකෙලෙස්. දවසක් ඒ භික්ෂුණීන් වහන්සෙලා දෙනම පිණ්ඩපාතෙ වැඩියා. දන් වැළඳුවා. දෙපා සෝදගෙන විවේක තැනක සුවසේ සිටිද්දී තමයි මේ කතාබහ ඇතිවුනේ. දැන් අපි මෙතනින් පස්සෙ ඉගෙන ගන්නෙ ඒ කතාබහ. අර්හත් භික්ෂුණීන් වහන්සේලා දෙනමක්, ඉසිදාසි සහ බෝධි කියන රහත් තෙරණිවරු දෙනම කරපු ඒ ලස්සන දහම් කතාව. බෝධි

තෙරණිය ඉසිදාසි කියන රහත් උත්තමාවියගෙන් අහනවා මෙහෙම. ආර්ය වූ ඉසිදාසි ඔයා හරිම ලස්සන කෙනෙක්. තවම ඉන්නෙ තරුණ වයසේ. ඔයා මහණ වෙන්න කල්පනා කලේ ගිහිගෙදර කොයි ආකාරයේ දෝෂයක් දැකලාද. ගෘහ වාසය අත්හරින්නේ නුවණැත්තෝ ඒ ගෘහවාසයේ තියෙන දොස් දැකලානෙ. මේ තරුණ වයසේම ගෘහ වාසය අත්හරින්න ඕන කියලා හිතුවේ මොනවගේ දෝෂයක් දැකලාද. විවේක තැනකදි මෙහෙම අහනකොට දහම් දෙසීමේ අතිශයින්ම දක්ෂ වූ ඉසිදාසි තෙරණිය මේ විදියට පිළිතුරු දුන්නා. එහෙනම් පින්වත් බෝධී මං මහණ වෙච්චි විදිය අහගන්න. මගේ තාත්තා සිල්වත් කෙනෙක්. එයා උදේනි නගරයේ සිටුවරයෙක්. මං ඒ ගොල්ලන්ගේ එකම දුව. ඒගොල්ලන්ගේ හැම ආදරයක්ම ලැබුනේ මට. පවුලේ හිටපු එකම දූපොඩ්ඩ. දෙමව්පියො දෙන්නෙකුට එකම දරුවා විදියට දුවක් හිටියා කියලා කියන්නෙ බෝනික්කියක් සුරකිනවා වගේ ඒ දෙමව්පියො දෙන්නා ආදරෙන් පුංචි කාලෙ මේ ඉසිදාසිව බලාගත්තා. ඉතින් ඒ ඉසිදාසි මේ සිටුපවුලේ මහා ධනසම්පත් මැද සුවසේ හැදී වැඩුනා. තරුණ වයසට පත්වෙනකොට ඉසිදාසි හරිම ලස්සනයි. සුදුසු වයස පැමිණුනාට පස්සේ සාකේත නගරයේ උසස් කුලයකින් මට මංගල යෝජනාවක් ආවා. ඒ සිටුවරයාටත් ගොඩාක් වස්තුව තිබුනා. ඒ සිටුතුමාගේ ලේලිය හැටියට මාව මගේ තාත්තා ඒ ගෙදරට පාවා දුන්නා. ඔන්න එතකොට ඉසිදාසි විවාහ වුනා. ඉතින් මං නැන්දයි මාමයි ළඟට උදේ සවස ගිහින් ඒගොල්ලන්ගේ දෙපා වැන්දා. ඔවුන් කියන දේ විතරමයි මං කෙරුවේ. ලේලියක් විදියට නැන්දම්මා මාමණ්ඩි කියන දෙන්නට අම්මටයි තාත්තටයි වගේ සළකාගෙනයි ඉසිදාසි හිටියේ. මං මගේ ස්වාමියා හරි සහෝදර සහෝදරියන් හරි ඒ කවුරුහරි දැක්කොත් පුටුවෙන් නැගිටිනවා. මං ඒගොල්ලන්ට වාඩිවෙන්න දෙනවා. කෑමෙන් බීමෙන් උනත් කැවිලි පෙවිලි වලින් වුනත් ඒගොල්ලො කැමති දේවල් හදලා දීලා ඒ ඇයන්ව සතුටු කරනවා. මං ඒගොල්ලන්ට හොඳට සැලකුවා. අවශ්‍ය දේවල් වෙලාවට හොයලා බලලා උපස්ථාන කරනවා. මං මගේ අතින් සැමියාගේ පා සෝදලයි ගෙට ගන්නෙ. ස්වාමියාට දාසියක් වගේ ඇ හිටියේ. ස්වාමියා නිවසින් එළියට ගිහිල්ලා ඇතුලට එනකොට ස්වාමියාගේ පාසෝදන්නෙ ඇය. පාසෝදලා බොහොම ගෞරවයෙන් තමයි ස්වාමියා ගෙට ගන්නෙ. ස්වාමියා ළඟට මං යන්නේත් වැඳගෙනයි. බලන්න ඒ තිබුනු ස්වාමි භක්තිය. ස්වාමියාට තිබුනු ගෞරවය, ස්නේහය, මං පනාවත් සුවඳ විලවුන් වර්ගත් වෙනත් දේවලුත් කණ්ණාඩියත් අරගෙන සැමියා ළඟට යනවා. මගේ අතින්මයි මං එයාව සැරසුවේ. ස්වාමියාට

ගෞරවයෙන් හිටියා. ඒ වගේම ස්වාමියාට අසාමාන්‍ය ආදරයකිනුත් ඈ හිටියා. මගේ අතින්ම බත් ඉව්වා. හැලි වළඳනුත් හේදුවා. අම්මා කෙනෙක් එකම දරුවාට සළකනවා වගේ මං මගේ සැමියාට කටයුතු කලේ. එයාට මං කොයිතරම් ආදරෙන් වැඩකාරකම් කරගෙන හිටියත් නිහතමානිව සොයාබලා කටයුතු කරගෙන හිටියත් කම්මැලි නැති සිල්වත් ජීවිතයක් ගෙවන මටමයි එයා බනින්නෙ. අන්තිමේදී එයා ඒගොල්ලන්ගේ දෙමව්පියන්ට මෙහෙම කිව්වා. ඉසිදාසි මේ තරම් යටහත්ව පහත්ව, ඇත්තෙන්ම මේ ජාතියේ බිරින්දෑවරු මේ කාලෙනම් නැති ගානයි. මේ විදියට ස්වාමියාට සළකන, මෙච්චර ස්වාමියාට ආදරෙන් ඉන්න, මෙච්චර ස්වාමියාට ගරු සත්කාර කරන, අද බිරින්දෑවරු ස්වාමියාගේ සමතැන තමන්ටත් ඕනෑ කියලා අරගල කරගන්න අයනෙ ඉන්නෙ. ඉතින් එහෙව් ඈයො අතරේ ඉසිදාසි මෙහෙම ඉඳලත් ස්වාමියාගෙන් හරියට දොස් අහන්න සිද්ධ වෙන්නෙ ඇට කියනවා. අවසානෙ ස්වාමියා මේ නිවසේ දෙමව්පියන්ව රැස් කරලා දෙමව්පියන්ට මෙහෙම කිව්වා. මං යනවා මේ ගෙදර අත්හැරලා, මට මේ ඉසිදාසිත් එක්ක පවුල් කන්න ඕනකමක් නෑ. මට ඉසිදාසි එපා කිව්වා. එතකොට නැන්දම්මයි මාමණ්ඩියි දෙන්නා මේ පුතාට කියනවා, පුතේ එහෙම කියන්න එපා, ඔය ඉසිදාසි ඥාණවන්ත කෙනෙක්නෙ. වාසනාවන්ත කෙනෙක්නෙ. වීර්යවන්තයිනෙ, කම්මැලි නෑනෙ. ඉතින් පුතේ ඔයා මොකද ඉසිදාසිට මේ තරම් අකැමැති? නැන්දම්මෙක් මාමණ්ඩි කෙනෙක් ලේලියක් ගැන මෙහෙම කියනවා කියලා කියන්නෙ ඇය කොයිතරම් ගුණ සම්පන්න විදියට ඒ විවාහ වෙලා ගියපු ගෙදර ඉන්න ඇතිද. නමුත් ස්වාමිපුරුෂයාට ඇය අප්‍රසන්නයි. ඇයව ප්‍රතික්ෂේප කරනවා. එතකොට ඒ ස්වාමිපුරුෂයා කියනවා ඔව්, ඇය මට වරදක් කලේ නෑ තමයි. නමුත් මට ඉසිදාසිත් එක්ක ඉන්න ඕන කමක් නෑ. මට ඇයව අප්පිරියයි. මට ඇගෙන් වැඩක් නෑ. මං එහෙනම් ඕගොල්ලන්ටත් නොකියාම මේ ගෙදරින් යන්න යනවා. ඒ පුරුෂයා කිව්වා දැන් ඉසිදාසිව යවන්න බැරි නම්, ඉසිදාසි නම් හොඳ මම යනවා යන්න. මම ඉන්නෙත් නෑ මේ ගෙදර කියලා. ඉතින් ගෙදර ඉන්න පිරිමි දරුවා මෙහෙම කියනකොට ඒ නිවසේ දෙමව්පියන්ට කරන්න දෙයක් නැතිව ගියා. අවසානෙ ඒ දෙමව්පියෝ ස්වාමිපුරුෂයාගේ පැත්ත ගත්තා. ඒ ගැන කියනවා මෙහෙම. නැන්දම්මයි මාමයි එයාගේ වචනෙ පිළිගත්තා. ඉතින් ඒගොල්ලො මගෙන් ඇහුවා, ඔයා මොකක්ද අපේ පුතාට කරපු වැරැද්ද, සැක නැතිව කියන්න අපිට මේවා හදාගන්න පුලුවන්නේ කියලා. නැන්දම්මයි මාමණ්ඩියි දෙන්නා එකතු වුනා මේ ප්‍රශ්නෙ විසඳන්න. එතකොට ඉසිදාසි

කියලා තියෙනවා මං එයාට කිසිම වැරැද්දක් කලේ නෑ, හිංසාවක් කලේ නෑ, වැරදි වචනයක්වත් කියලා නෑ, අනේ ආර්යාවෙනි ඉතින් එයා මේ තරම් මාත් එක්ක තරහ වුනේ මොකටද කියලා මං දන්නෙ නෑ, එතකොට මේ දෙමව්පියන්ට මේක විසඳන්න බැරිව ගියා. අවසානෙ ඉසිදාසිව, ඉසිදාසිගේ ගෙදරටම ගිහිල්ලා ඇරලනවා, අපේ පුතාව රැකබලාගෙන හිටපු ලස්සන ලක්ෂ්මිව අපේ පවුලට නැතිවුනා කියලා. අකමැත්තෙන්, නැන්දම්මලා අකමැත්තෙන් තමයි ඉසිදාසිව තමන්ගේ හිටපු නිවසට ගෙනිහින් දැම්මෙ. හැබැයි ඇගේ විවාහය සාර්ථක නෑ, එච්චර යටහත් පහත්ව ඉඳලත් ඇගේ විවාහය සාර්ථක නෑ. ඈ විවාහ වෙච්චි නිවසේ ලේලිය විදියට උසස්ම ආකාරයෙන් කටයුතු කරලත් ඇගේ විවාහය සාර්ථක වෙන් නෑ. ඈ පතන ආදරය සෙනෙහස, ස්වාමියාගේ ආරක්ෂාව ඇයට ලැබෙන් නෑ. එතකොට ඒ වතාවේ ඔය විදියට සම්පූර්ණයෙන්ම විවාහ ජීවිතය කඩාකප්පල් වෙලා තියෙනවා. ඊටපස්සෙ අපේ තාත්තා අපට වඩා බදු ආදායමෙන් භාගයක් ලැබෙන ධනවත් පවුලකට මාව බන්දලා දුන්නා. අච්චර උසස් පවුලකට බන්දලා දෙන්න වත්කමක් තිබ්බෙ නෑ. ඒ නිසා දෑවැද්දත් එක්ක බදු ආදායමින් භාගයක් ලැබෙන ධනවත් පවුලකට බන්දලා දුන්නා. මාසයයි මං ඒ ගෙදර හිටියේ. මං කීකරු දාසියක් වගේ උපස්ථාන කරද්දී. ද්‍රෝහිකම් නොකරද්දී සිල්වත්වම සිටිද්දී ඒ ගෙදරිනුත් මාව අයින් කලානෙ. බලන්න පින්වතුනි මේ ජීවිත වල ශෝකාකූළ කතා. දැන් මෙබඳු කතා වර්තමානය තුළත් කොතෙකුත් ඇති. මේ අර්හත් උත්තමාවියකට වෙච්චි සිද්ධියක් නිසානෙ අපි මේක ධර්මය තුළ ඉගෙන ගන්නෙ. මෙහෙම කතන්දර ඇති. කොච්චර තමන් හොඳ කලත්, බැනුම් අහන්න වෙන. තමන් කොච්චර යහපත් විදියට හිටියත් තමන්ගේ දොස්ම පේන. දැන් වර්තමානයේත් ඇති. ඉසිදාසිගේ දෙවෙනි විවාහයත් කඩාකප්පල් වුනා. අන්තිමේදී ඈ දැන් ආයෙමත් විවාහ දෙකකට පස්සේත් තමන්ගේ නිවසේ. අන්තිමේදී මගේ තාත්තා සිඟමනේ ඇවිද ගිය ඉඳුල් කකා ඉන්න මිනිහෙක් එක්කරගෙන ආවා. ඒ මනුස්සයා තරුණ පුරුෂයෙක්. හිඟමනේ ආවා මේ සිටු නිවසට. ආවට පස්සෙ මේ දෙමව්පියොත් දැන් අසරණයිනෙ. ඉසිදාසි කොහේට බන්දලා දුන්නත් ඉසිදාසිගේ විවාහය කඩාකප්පල් වෙනවා ආයෙ හිටපු ගෙදෙරට එනවා. එතකොට මේ මහසිටුතුමා කල්පනා කලා මේ ඉසිදාසිව විවාහ කරලා වෙන නිවසකට යවන්නේ නැතිව බින්න බහින්න පුලුවන්, බින්න විවාහයක් කරවන්න පුලුවන් පුරුෂයෙක්ව හොයලා බලන්න. ඉතින් හිඟාකාගෙන ආපු තරුණයෙක්ව දැකලා, ඒ තරුණයා ටිකක් පෙනුමට ඉන්න

ඇති. ඒ නිසා මේ තාත්තා ඒ පුරුෂයාට කතා කලා. ළමයෝ ඔය රෙදිකඩමාල්ලයි, ඔය තැටියයි වීසි කරපන්. මගේ දියණියගේ ස්වාමියා බවට පත්වෙයන් කියලා ඒ හිඟාකාගෙන ආපු මනුස්සයාට කිව්වා. ඉතින් ඒ මනුස්සයා මේකට කැමැති වුනා. ඉසිදාසිත් එක්ක සිටුමන්දිරය ඇතුලේදීම විවාහය සිද්ධ වුනා. විවාහ වෙලා ටික කලයි, මේ ථෙරීගාථා වල තියෙනවා එයත් මාව අත්හැරලා යන්න ගියා. මේ හිඟාකාගෙන ආපු පුද්ගලයාව ගෙට ගත්තෙ. ඒ මිනිහා සිටුමන්දිරයේ සැප විඳ විඳ හොඳට සුවසේ ඉන්න තියෙද්දිත් ඒ මිනිහත් මේ ඉසිදාසි කියන ලස්සන තැනැත්තියව දාලා යන්න ගියානෙ. ඔහු යන්න යනකොට මෙහෙමත් කිව්වා කියනවා, මගේ රෙදිකඩමාල්ලයි මගේ තැටියයි මට ආපහු ඕන. මං ආයෙමත් සිඟාකන්න පටන් ගන්නවා. එතකොට අම්මයි තාත්තයි එයාට මෙහෙම කිව්වා. මේ ගෙදරින් මොනවාද ඔයාට ලැබෙන්නෙ නැත්තෙ? ඕන දෙයක් කියන්න අපි හරිගස්සලා දෙන්නම්. එහෙම කියද්දිත් එයා මෙහෙමයි කිව්වෙ. නෑ මට ජීවත් වෙන්න තාම හයිය හත්තිය තියෙනවා. මට ඉසිදාසිගෙන් වැඩක් නෑ, ඉසිදාසිත් එක්ක පවුල් කන්න මට ඕනකමක් නෑ. තමන් ගැනම කොච්චර කළකිරීමක් ඇයට හටගන්න ඇතිද. මේ වගේ සංසිද්ධියකට මුහුණ දෙන්න සිද්ධ වෙනකොට. පින්වතුනි සංසාරය කියලා කියන්නෙ නම් පුදුම දුක්ගැහැට එක්ක යන්න තියෙන ගමනක්. ඒ දුක් ගැහැට විඳවනකොට අපි ඒ දුක්ගැහැට මැදට මැදිවෙලා කරකියාගන්න දෙයක් නැතිව අසරණ වෙනවා. අපි දන්නේ නෑ මේ සසරක කතන්දරයක් පටලැවිලා තියෙන්නෙ කියලා. ඇත්තටම අපේ වාසනාව බුදුකෙනෙකුගේ ධර්මය හමුවීම. බුදුකෙනෙකුගේ බණ පද අහන්න ලැබීම අපේ වාසනාව. අපි දන්නවා මේ යන්නෙ සංසාරෙක. කරගත්ත කර්ම පටලැවිල්ලක් අපේ ජීවිතේට තියෙනවා කියන එක අපි දැන් දන්නවා. බලන්න මේ ඉසිදාසි කියන තරුණ තැනැත්තියට විවාහ ජීවිත තුනක් කඩාකප්පල් වෙලා මේ ඉඳුල් කකා හිටපු මිනිහෙකුත් තමන්ව දාලා ගිහිල්ලා. තමන් ගැනම තමන්ට කොච්චර කළකිරීමක් හටගන්න ඇත්ද, ඈ කියනවා ඒ ඉඳුල් කන මනුස්සයත් මාව දාලා ගියා. මං තනියම හිතන්න පටන් ගත්තා. එක්කො මං කාටවත් නොකියා දිවි නහගන්නවා. එක්කො මං මහණ වෙනවා. අන්න ඒ හිතුවිලි දෙක ආවා. එක්කො මං දිවි නහගන්නවා. එක්කො නැත්නම් මං මේ විවාහ වෙවී ගතකරන මේ ජීවිතය අත්හැරලා මං මහණ වෙනවා. ඔය හිතින් මහා වේදනාබරව ඈ ඉන්නකොට විනයධර බහුශ්‍රැත සිල්වත් භික්ෂුණියක් ආර්ය වූ ජිනදත්තා කියන භික්ෂුණිය පිණ්ඩපාතයේ වඩින ගමන් අපේ ගෙදරටත් වැඩියා. ඔන්න ඇයට වාසනාව

උදාවෙනවා. විඳවලා විඳවලා හිටපු ජීවිතේ, අඬ අඬා හිටපු ජීවිතේ. දිවි නහගන්නවා නම් හොඳයි කියලා හිතෙන තරම් කළකිරිච්චි ජීවිතේට වාසනාව උදාවෙනවා. බලන්න වාසනාව උදාවෙච්චි හැටි. ඒ වාසනාව උදාකරවන කල්‍යාණමිතුරිය නිවසටම වැඩම කලා. එතුමිය දැකලා අපි සිටිය ආසනයේ වාඩිවෙන්න පිළියෙල කලා. එතන හිඳගත්ත ඒ භික්ෂුණියගේ දෙපා වැඳලා අපි දානෙත් පූජා කරගත්තා. දන් පැන් වලිනුත් කැවිලි පෙවිලි වලිනුත් ඇයට හොඳට සැළකුවා. දැන් මේ ජිනදත්තා කියන අර්හත් උත්තමාවියට දානෙ පූජා කරලා මේ කටයුතු සිද්ධ වෙනකොට ඇගේ පැවතුම්, අගේ තියෙන සන්සිඳීම, ඇගේ තියෙන ප්‍රියමනාපකම මේක බලාගෙන ඉන්නවා ඉසිදාසි. සාමාන්‍යයෙන් ස්ත්‍රියාවක් පුරුෂයෙක් නැතිව ජීවිතයක් නෑ වගේනෙ හිතාගෙන ඉන්නෙ. දැන් ඉසිදාසිට පේනවා මං එක එක පුරුෂයො හොයාගෙන ගිහිල්ලා විවාහ ජීවිත කඩාකප්පල් කරගෙන අඬ අඬා ඉන්නවාට වඩා මේ උත්තමාවියගේ ජීවිතයට මාත් යොමුවුනා නම් කොච්චර හොඳ ද. එහෙම හිතෙනවා. ඉසිදාසි දානෙ වළඳලා ඉවරවෙච්චි මේ තෙරණින් වහන්සේ ළඟ වැඳවැටුනා. වැඳගෙන කියනවා, ආර්යාවෙනි මාත් කැමැතියි මහණ වෙන්න. ඇ එහෙම කියනකොට ඇගේ තාත්තා මෙහෙම කිව්වා. දුවේ ඔයා මේ ගෙදර ඉඳගෙනම ධර්මයේ හැසිරෙන්නකො. ශ්‍රමණ බ්‍රාහ්මණයන්ට දානමාන වලින් සළකන්න. ඔයා මේ ගේ අත්හැරලා යන්න එපා, අපි අතහරින්න එපා කිව්වා. එතකොට ඉසිදාසි තාත්තා ළඟ වැඳගෙන හඬාවැටුනා. නෑ තාත්තෙ මං කරගත්තු යම්තාක් පව් ඇත්ද, ඒ පව් තමයි මේ මා කරා පැමිණෙන්නෙ. මේව්වා සංසාරේ මං කරගත්තුවා. මේවා මගේ තාත්තා කලා නෙවෙයි. මේවා මගේ අම්මා කලත් නෙවෙයි. මේ ඔක්කොම විඳවිලි මංම කරගත්තු පව් වලට අනුවයි. ඒ නිසා තාත්තෙ මංම ඒ පව් දිරවලා අවසන් කරවලා දානවා. මට පැවිද්දට අවසර දෙන්න කිව්වා. ඊටපස්සෙ ඉසිදාසිගේ තාත්තා මෙහෙම කියනවා. නරශ්‍රේෂ්ට වූ බුදුරජාණන් වහන්සේ යම් උතුම් ධර්මයක් අවබෝධ කලා නම් මගේ දුවේ ඔයත් ඒ උතුම් ධර්මයට පැමිණිලා අවබෝධය ලබාගන්න. මේ දුක් විඳින ජීවිතෙන් නිදහස් වෙලා ඔයා නිවනට පත්වෙන්න. ඔන්න ඔහොම තමයි ඉසිදාසිට පැවිද්දට අවසර ලැබුනෙ. මං දෙමව්පියන්ටත් නෑදෑ පිරිසටත් වන්දනා කලා. ඔන්න ඉතින් මාත් මහණ වුනා. මහණ වෙලා හත්දවසින් මං ත්‍රිවිද්‍යාව ලබාගත්තා. ආශ්චර්‍යයයි බුද්ධ ශාසනය. අර කාමයන් එක්ක, කාමයන් පතද්දී කාමය නොලැබෙනකොට ගුටි කකා හිටපු තැනැත්තී බුද්ධ ශාසනේ සිවුරු දරාගත්තා. බුදුරජාණන් වහන්සේගේ සිත් නිවන බණ පද ඇහුවා. දවස් හතයි.

දවස් හතකින් ත්‍රිවිද්‍යාව ලබාගෙන අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. පින්වතුනි මෙහෙම සැනසිල්ලක්, සංසාරේ විඳවන ජීවිත වලට බුදුරජුන්ගේ ධර්මයෙන් විනා වෙන මොකකින් ලැබෙන්නද, ධම්මං සරණං ගච්ඡාමි කියලා අපි සරණ ගියපු ධර්මයෙන් විනා මේ සාංසාරික ගමනේ ගුටිකන ගුටි කෑමට සැනසිල්ලක්, විසඳුමක්, ශාන්තියක් මේ ලෝකෙ වෙන මොකකින් ලැබෙන්නද. සන්තෝෂ වෙන්න, අපේ මේ සවන්පත් වලින් බුදු කෙනෙක්ගේ ධර්මය අහන්න ලැබුනා. අපිට මේ ඇස් වලින් බුදුබණ පදයක් කියවන්න ලැබුනා. අපිට මේ ඇස් වලින් බුදු බණ දේශනාකරන දේශකයන් වහන්සේලා දකින්න ලැබුනා. බණකට සාදුකාර දෙන්න ලැබුනා. මෙහෙම හිත හිත පින්වතුනේ සන්තෝෂ වෙන්න. මොකද ධර්මය කියන්නෙ ආශ්වර්‍යයක්, පෙළහරක්, ප්‍රාතිහාර්යයක්. මෙච්චර දුක් විඳ විඳ හිටපු ඉසිදාසි දවස් හතෙන් සුවපත් වුනානෙ. දවස් හතෙන් ඇය සුවපත් වුනා. ත්‍රිවිද්‍යාව ලබාගත්තා. අර්හත් උත්තමාවියක් බවට පත්වුනා. ඒ අර්හත් උත්තමාවි තමන් අවබෝධ කරගත්ත ධර්මයට අනුව පෙර ජීවිතය සිහි කරන්න පටන් ගත්තා. පුබ්බේනිවාසානුස්සති ඥාණයෙන්. සම්පූර්ණයෙන්ම සැනසුනු සිතකින් ඈ බලනවා ගුටි කකා ආපු සංසාරෙ. ගුටි කකා ආපු සංසාරෙ දිහා ඈ බැලුවා. ඒ ගැන ඈ මෙහෙම කියනවා. මට අතීත ජීවිතේ ආත්ම භාව හතක් සිහි කරන්න පුලුවන්. මං මේ ජීවිතේ විපාක වින්දේ ඒ කාලෙ කරපු පවක්. මං ඔයාට ඒක කියන්නම්, හොඳට අහගෙන ඉන්න. දැන් මේ බෝධි කියන රහත් තෙරණියටයි මේ කතාව කියන්නෙ. ආත්මභාව හතකට කලින් තමයි කියනවා මේ කතන්දරය පටන් ගත්තෙ. ආත්මභාව හතකට පෙර කරගත්ත කතන්දරයක් තමයි මේ පස්සෙන් ලුහුබැඳගෙන ඇවිල්ලා දුක්ම දුන්නෙ. මොකක්ද ඒ කතාව? මීට ආත්මභාව හතකට කලින් ඒරකච්ච නගරයේ ගොඩාක් ධනය තියෙන රන්කරුවෙක් වෙලා මං හිටියේ. මං තරුණ කමින් මත්වෙලා හිටියා. තරුණ කමින් මත්වෙච්චි මම නොයෙක් කාන්තාවන් පස්සෙ ගියා. ඒරකච්ච කියන නගරයේ හොඳ ධනවතෙක් වෙලා ඔහු හිටියේ. ධනයෙන් මත්වුනා. මා හට බොහෝ සල්ලි තියෙනවා නොවැ කියලා මත් වුනා. ඊළඟට ඔහු තරුණ වයසට එනකොට කඩවසම් රූපයක් ලැබුනා. ස්ත්‍රියාවො වසඟ වෙන විදියේ ලස්සන රූපයක් ලැබුනා, ඒ රූපයෙන් මත්වුනා. ධනයෙන් මත්වෙලා රූපයෙන් මත් වෙලා කැමැත්තෙන් එන ස්ත්‍රීන් එක්කත්, ස්ත්‍රීන් කෙරෙහි බලහත්කාරකමිනුත්, ස්ත්‍රීන්ට නොයෙක් නොයෙක් ආකාරයේ යෝජනා ආදිය කරලත්, චාටුවලින් ස්ත්‍රීන්ව වසඟ කරගෙනත්, හිතුමනාපෙ සල්ලාලකම් කලා. ස්ත්‍රියාවො පස්සෙ ගියා. වර්තමානයේ මේ

මොකවත් දන්නෙ නැති ධර්මයක් ගැන හැඟීමක් නැති බොල් මිනිස්සු තමන්ගේ තියෙන කාම සහගත ඇවිස්සිල්ල නිසාම කියනවා එහෙම තමන් කැමැති කෙනෙක් එක්ක හිටියාට කමක් නෑ, ඒක මේ මනුස්සයාගේ හිතට පහසුවක් කියලා. පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ උතුම් සද්ධර්මය කියන මහා ශාන්තියෙන් අපේ මේ ලංකාභූමිය සුවපත් වෙච්චි දේශයක්. මේ ලංකාභූමිය රහතුන් වැඩහිටපු දේශයක්. අහස් ගැබෙන් රහතන් වහන්සේලා වැඩම කරපු දේශයක්. මේ වෙනකොට අපි නොයෙක් නොයෙක් පරිහානි වලට පත්වුනාට එහෙම යුගයක් අපිට තිබුනා. අපේ අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේ මේ ලංකාධරණී තලයට ඒ අමෘතය දායාද කලා. ඒ ධර්මද්වීපයේ සංස්කෘතිය තුළට එකතුවෙලා තිබුනා වැදගත් ක්‍රම. අපි දැන් බටහිරට ආවඩනවා, බටහිර තියෙනවා ලිවින් ටුගෙදර් කියලා එකක්. තමන් කැමැති කෙනෙක් එක්ක තමුන්ට ඉන්න පුලුවන්. ඒගොල්ලො හරි සැනසිල්ලෙ ඉන්නවා. එහෙම කියලා බටහිර ජාතිකයාගේ එකට අපි ආවඩනවා. අපිට තියෙන උතුම් සංස්කෘතිය හෙලා දකිනවා. අපි කැමැති එකා එක්ක ඉඳලා මේකෙ අවුරුදු ගානක් ඉන්නද. අපි අවුරුදු හැටයි, හැත්තෑවයි, හැත්තෑ පහයි, අසූවයි මැරිලා යනවා. ඒ මැරිලා යන ජීවිතයට රැස් කරගන්න කර්ම ආත්මභාව ගණන් එළවන්න එපැයි. ඒ නිසා මේ ධර්මය ගැන හොඳට තේරුම් ගන්න. තේරුම් අරගෙන මේ ජිවිතයට කර්මය කියන එක බලපවත්වන හැටි තමන් තමන්ගේ හදවතේ හොඳට දරාගන්න. මං කරන දේ කියන දේ හිතන දේ මෙහෙම පස්සෙන් එනවා කියන එක. දැන් බලන්න ඉසිදාසිට වෙච්ච එක. ආත්මභාව හතකට කලින් මේ කඩවසම් තරුණයා වෙලා හිටපු කාලෙ මත්වෙලා සල්ලාලකම් කරන්න ගිහිල්ලා ඒ ජිවිතේ මනුස්ස ලෝකෙන් චුත වෙලා මං කෙලින්ම ඉපදුනේ නිරයේ. මං ගොඩාක් කල් නිරයේ දුක් වින්දා. ඒ ජීවිතේ තිබුනු කඩවසම් රූපය නැතිව ගියා. ගින්නෙන් දැවෙන නිරසතෙක් වුනා. ඒ ජිවිතයේදී තිබුනු ස්ත්‍රී ආකර්ෂණය නැතිව ගියා යමපල්ලන් ඉස්සරහා දුක් විඳ විඳ කෑගගහා ඉන්න සිද්ධ වුනා. ඒ ජීවිතේ චාටු බස් කියපු මිහිරි හඬ නැතිව ගියා. ගින්දරෙන් දැවෙනකොට මොර දිදී කෑගහන්න සිද්ධ වුනා. කෙලින්ම උපන්නෙ නිරයේ. නිරයේ ඉපදිලා බොහෝ කල් නිරාදුක් වින්දා. නිරයේ ආයුෂ අවුරුදු කෝටි ලක්ෂ ගණන් විඳවලා විඳවලා නිරයෙන් චුත වුනාට පස්සෙ මං උපන්නෙ වැඳිරියකගේ කුසේ. අවීචි මහා නරකයෙන් තිරිසන් අපායට ආවා. තිරිසන් අපායේ වැඳිරියකගේ කුසේ උපන්නා. එතකොට මං ඉපදිලා දවස් හතයි. ඒ වඳුරු රැලේ නායක වඳුරා මගේ පුරුෂ ලිංගය හූරලා දැම්මා. මේ වඳුරු පැටියෙක් විදියට තමයි උපන්නෙ වඳුරු

පැටව් විදියට උපන්නාම පින්වතුනි රෑලේ ඉන්න මහවඳුරට තියෙනව ඊර්ෂ්‍යාවක්, පුරුෂ සත්තුගැන. පිරිමි සත්තු ගැන රෑලේ ඉන්න මහවඳුරට තියෙනවා ඊර්ෂ්‍යාවක් මේකුන් ලොකු වෙලා මාව පරද්දයි කියලා. ඒ ඊරෂ්‍යාවෙන් මේ මහවඳුරා මේ පුංචි වඳුරු පැටියාගේ පුරුෂ ලිංගය හූරලා දැම්මා. ඈ කියනවා පරස්ත්‍රීන් සේවනය කරපු කර්ම විපාකය තමයි මං ඒ වින්දෙ. මං එතනින් චුත වුනා. අපි ඇතැම් වෙලාවට දැකලා තියෙනවා පින්වතුනේ ඔය ඇතැම් බල්ලන්ගේ එහෙම අනතුරු සිද්ධ වෙලා ඒ ලිංගාශ්‍රිත ප්‍රදේශ වලට බලවත් තුවාල සිද්ධ වෙලා. ඒ තුවාල වලින් ඒ සත්තු විඳවනවා. කොයි කාලෙක ඔහොම කරගත්ත කර්මයක්ද කියලා කවුද දන්නෙ. අපි කර්ම කතාව දන්නෑ, දැන් මේ වඳුරු පැටියාගේ පුරුෂ ලිංගය හූරලා දැම්මට පස්සෙ එතන තුවාල වුනා. තුවාල වණ වුනා. ඒවාට පණුවො ගැහුවා, හොඳටම ලෙඩ වුනා. ලෙඩ වෙලා ඒ වඳුරු පැටියා මියපරලොවගියා. මං එතනින් චුත වුනා. චුතවෙලා සිංගල වනයේ හිටියා එක ඇහැක් අන්ධ වෙච්චි කුදු ගැහිච්චි බූරු දෙනක්, ඒ ගමන මං උපන්නෙ ඇගේ කුසේ. මං කුඩා කාලයේ ... වල මගේ රහස්අඟේ ඇට තැලුවා. මේ බර අදින සත්තුන්ගේ පුංචි කාලෙම කෝෂ තලනවා. ඒ කෝෂ තැලීම කියලා කියන්නෙ වේදනාකාරී එකක් ඒ සතාට. නමුත් මිනිස්සු එකතු වෙලා ඒ සතාව අල්ලලා ඒ සතාගේ කෝෂ තලනවා, එතකොට උඟ තරවෙනවා. උඟ තරවුනාට පස්සෙ උඟට පහසුවෙන් ලොකු බරක් අරගෙන යන්න පුලුවන්. ඉතින් පුංචි කාලෙම මේ බූරු පැටියාගේ රහසඟේ කෝෂ තැලුවා. දොලොස් අවුරුද්දක් දරුවන්ව පිටේ තියාගෙන මං ඇවිද්දා. නමුත් අර ඇට තලපු තැන තුවාල වෙලා තිබුනෙ. ඒ තුවාලට පණුවො ගහලාම මං ලෙඩවුනා. පර ස්ත්‍රීන් සේවනය කරපු එකේ විපාකය තමයි ඒ. බලන්න එක ජීවිතයක් මනුස්සයෙක් වෙලා ඉපදිලා ඒ එක ජීවිතේ ආශ්වාදය විඳින්න ගිහිල්ලා විඳවන විඳවිල්ල. දැන් ඇතැම්හු මෙහෙම කියනවානෙ, මේ මනුස්ස ලෝකෙ ඇතැම් අපි යම් යම් කර්ම කලාට විඳවනකොට අපි ඒ ඒ තැන්වල ඉපදිලා, අපි දන්නෙ නැනෙ ඒ අපි කියලා. නෑ නිරයේ ගිහිල්ලා නිර සතෙක් විදියට විඳවන්නේ අපිමයි. තිරිසන් ලෝකෙ ගිහිල්ලා තිරිසනෙක් විදියට විඳවන්නේ අපිමයි. දැන් බලන්න පින්වතුනි මේ මනුස්ස ලෝකෙ අපි මේ ඉපදිලා ඉන්න කාලෙ ඔන්න අන්තවාදී ප්‍රශ්න ආවා. වෙන කෙනෙක්ද විඳවන්නෙ අපිද, අපිනෙ විඳවන්නෙ. ඊටපස්සෙ මෙන්න කොරෝනා ප්‍රශ්නයක් ආවා, මේ කොරෝනා ප්‍රශ්නය කියන පරිසරය මෙහෙ හැදෙනකොට වෙන කෙනෙක්ද විඳවන්නෙ, අපිනෙ. අපිට බඩේ අමාරුවක් හැදුනොත් විඳවන්නේ කවුද, අපි.

අපේ ඔළුව රිදෙන්න පටන් ගත්තොත් විඳවන්නේ කවුද, අපි. අපි රැස් කරගන්න දේට අපිටම විඳගන්න සිද්ධ වෙනවා. ඒක වෙන කෙනෙක් විඳවන්නෑ. තමන් වෙනුවෙන් අම්මාට බෑ ඒක ගන්න. තමන් වෙනුවෙන් තාත්තාට බෑ ඒක ගන්න. තමන් වෙනුවෙන් තමන් ආදරය කරන කෙනෙකුට බෑ ඒක ගන්න. තමන්මයි විඳවන්නෙ. යාදිසං වපෙත් බීජං - වපුරන්නේ යමක්ද, තාදිසං හරති ඵලං - වපුරපු දේට අනුව ඵල හටගන්නේය. තමන් යමක් වපුරනවා නම් තමන්ටම එහි ඵල ලැබේ. කල්‍යාණකාරී කල්‍යාණං - හොඳ වපුරන කෙනාට හොඳ ලැබේ. පාපකාරී ච පාපකං - ලාමක දේ පව්වු දේ වපුරන කෙනාට පව්වු දෙයක්ම ලැබෙයි. අන්න ඒ නිසා. මේ ථේරීගාථාවෙන් හොඳට ඉගෙන ගන්න පුලුවන් පව්වු ක්‍රියාවක් වන සල්ලාලකමේ විපාක. සල්ලාලකම කියන එක වැපිරවොත් ඒකෙන් තමන්ගේ ජීවිතයට කොයි වගේ භයානක විපාකයක් ඒවිද කියලා දැන් මේ ඉසිදාසි තෙරණියගේ ගාථා වලින් අපිට තේරුම් ගන්න තියෙන්නෙ ඒ තියෙන භයානක පැතිකඩ, මේක මීටත් වඩා භයානක වෙන්න පුලුවන්, සල්ලාලකම් කලොත්. දැන් ඒ උත්තමාවියගේ ජීවිතේ ගැනයි මේ කියන්නෙ. නමුත් මේ ජීවිතේ කරන සල්ලාලකම් වලට කෙනෙක් සැහැල්ලුවට අරගෙන ඔහේ සල්ලාලකම් කරගෙන හිටියොත් නිවැරදි වුනේ නැත්නම් ඒවාගේ විපාක මේ කියනවාටත් වඩා අතිශයින්ම භයානක කටුක ඒවා බවට පත්වෙන්න පුලුවන්. ඒ උත්තමාවිය කියනවා තවත් මං එතනිනුත් චුත වුනා. හරක් වෙළෙන්දෙක් ළඟ හිටපු ගව දෙනකගේ කුසේ මං උපන්නා. මං රතුපාට වහුපැටියෙක්. දොළොස්වෙනි මාසෙදි අර විදියටම මගේ ලිංගයේ ඇට තැලුවා. එතකොට බූරුවෙක් වෙලා ඉපදිලා ඉන්නකොටත් ඒ දේ සිද්ධ වුනා. මේ හරක් පැටියා වෙලා උපදිනකොටත් ඒ දේම සිද්ධ වුනා. මං නගුල් උස්සගෙන ගියා. ගැල් බර කර තියාගෙන ගියා. අන්ධයෙක් වගේ මං පරස්ත්‍රීන් සේවනය කල නිසාම මං අන්ධ වෙලා ලෙඩ වෙලා ගියා. ඒ වහුපැටියා අන්ධ වෙලා. යම් අයුරකින් වැඩීගෙන එනකොට අන්ධ වුනා. අන්ධ වෙලා ලෙඩ වුනා. අර කෝෂ තලපු තැන තුවාල හටගත්තා, ඒකෙන්ම මියපරලොව ගියා, දුක් විඳලා විඳලා මියගිහිල්ලා ඔන්න එතනිනුත් චුත වුනා. නගරයේ වීදියේ දාසියකගේ කුසේ තමයි මං ඊළඟට උපන්නෙ. පර ස්ත්‍රීන් සේවනය කිරීමේ විපාකය බලන්න, ඒ වතාවෙ මං ගැහැණියකුත් නොවෙයි, පිරිමියෙකුත් නොවෙයි, මං නපුංසකයෙක්. සමාජයෙන් නින්දා අපහාස විඳින, කොන්වෙන් කවුරුත් ගණන් ගන්නේ නැති එක එක්කෙනා නොයෙක් නොයෙක් ආකාරයේ ඇනුම් පද හදන නපුංසකයෙක් වෙලා, අසරණයෙක් වෙලා උපන්නා. පර ස්ත්‍රීන් සේවනය කරපු

එකේ විපාකය. සුළු ආශ්වාදයකට කය වරදවා ගැනීමේ විපාකය. ඒක තමන්ගේ කයටම ලැබෙනවා. කර්මය කලේ කයෙන් නම් කයටම ලැබෙනවා. හරිම බිහිසුණුයි පින්වතුනේ මේ සංසාර ගමන. මං ගොඩාක් දුක් වින්දා. අවුරුදු තිහේදී මං මැරුණා. ඊළඟට මං උපන්නෙ ණය බරින් මිරිකිලා ගිය ගැල් බර ගෙනියන පවුලක. බොහොම දුප්පත් පවුලක. ඒ ගමන මං ස්ත්‍රියක්. අපේ ගෙදරට ණය ගෙවාගන්න බැරිවුනා. ගැල්නායකයා අපේ ගෙදරට ඇවිදින් මං හඬද්දීම බලහත්කාරයෙන් මාව අරගෙන ගියා. ණය අරගෙන ඒ ණය ගෙවාගන්න බැරිව අසරණ වෙලා හිටපු පවුලක ඇය උපන්නේ දැරිවියක් විදියට. ඇය යම් පමණකට වැඩිලා ඉද්දි වයස අවුරුදු 16 ක් වෙලා තියෙද්දී තරුණිය කාලෙ මේ ණයකාරයා ගෙදරට එනකොට ඇය ඉස්සරහා හිටියා. එතකොට උඹලා මට ණය දෙන්නෙ නැත්නම් මං මේකිව අරන් යනවා කියලා මේ කෙල්ලව බලහත්කාරයෙන්ම ඇදගෙන ගියා. ඒ ගැල්නායකයාගේ පුතෙක් හිටියා ගිරිදාස කියලා. එයා මාව තමන්ගේ ගෙදරට කැඳවගත්තා. මේ ගිරිදාස කියන පුද්ගලයා තරුණියව දැකලා ඇට කැමැති වෙලා තමන්ගේ ළඟට කැඳවගත්තා. එතනදිත් ආයෙ වැරදුනා. ඒ වැරදුනේ මෙහෙම. එයාට හිටියා හොඳ සිල්වත් ගුණවත් ස්වාමිභක්තිය තියෙන වෙනත් බිරිඳක්. මට ඈ ගැන ඊර්ෂයා හිතුනා. ඉතින් මං කලේ ඒ බිරිඳ ගැන කිපෙන විදියට එයාට කටයුතු කිරීම. ඊර්ෂ්‍යා කිරීම. ඊර්ෂ්‍යාව කියන එක එන්නෙ මානසික අකුසලයක් විදියට, අනුන්ගේ සැපය දකිනකොට උහුලාගන්න බැරිකම. අනුන්ගේ දියුණුව දකිනකොට උහුලාගන්න බැරිකම. තව කෙනෙක් සතුටින් ඉන්නවා දකිනකොට උහුලාගන්න බැරිකම. මේ ඊර්ෂ්‍යාව කියන එක පින්වතුනේ හරියට පැතිරිලා තියෙනවා සමාජයේ. උස් පහත් භේද නෑ, ගිහි පැවිදි භේද නෑ, ධන නිර්ධන භේද නෑ, මේ ඊර්ෂ්‍යාව කියන එක පැතිරිලා තියෙනවා සමාජය තුළ. තව කෙනෙකුගේ දියුණුවක්, අභිවෘද්ධියක්, තව කෙනෙකුට ලැබෙන ප්‍රශංසාවක් මේවා ඉවසන්න බෑ, අඩුම තරමේ මනුස්සයෙක් හිනාවෙලා ඉන්නවාවත් ඉවසගන්න බෑ සමහරුන්ට. මේක මේ හැමතිස්සෙම හිනාවේගෙන කියලා ඒකටත් ඊර්ෂයා කරනවා. ඇත්තෙන්ම ඊර්ෂ්‍යාව කියලා කියන්නෙ මානසික ලෙඩක්. මනසේ තියෙන මානසික ලෙඩක්. අපේ ගාවත් ඔය ඊර්ෂ්‍යාව කියන ලෙඩේ තියෙන්න පුලුවන්. අපි හොයලා බලන්න ඕන හොඳ අවධානෙන් අපි ළඟ ඒක තියෙනවාද කියලා. තියෙනවා නම් පින්වතුනි බෙහෙත මුදිතාව. ඊර්ෂ්‍යාව කියන ලෙඩේ තියෙනවා නම් බෙහෙත මුදිතාව. මොකක්ද මුදිතාව කියලා කියන්නෙ අනිත් අයගේ දියුණුව දකිද්දි හදවතින්ම ආශිර්වාද කිරීම මුදිතාවයි.

හදවතින්ම නිකං එළියට පේන්න කටින් කියන එක නෙවෙයි. අප්පේ ඔයාලට හරියන්න ඕන කියනවා. හිත ඇතුලේ කුණු තියාගෙන. ඒක වැඩක් නෑ. අපිට පුලුවන් එහෙම බාහිර අයව රවට්ටන්න. බාහිර අය රවට්ටනවා කියලා අපි එහෙම කටයුතු කලත් පින්වතුනේ ඇත්තටම රැවටෙන්නේ අපි. කරනවා නම් යමක් හිතට එකඟව කරන්න ඕන. හදවතින්ම අනුන්ගේ දියුණුව පැතීම මුදිතාවයි. කෙනෙකුට ප්‍රශංසා ලැබෙනකොට හදවතින්ම සතුටු වීම මුදිතාවයි. තමන් රැකී රක්ෂා ආදිය කරන තැන තමන් එක්ක සමතිළයේ හිටපු කෙනා එයාගේ දක්ෂතා නිසා වේගයෙන් ඉස්සරහට යනවා පේනවා, එයාට හදවතින්ම ආශිර්වාද කර කර අත දෙන්නෙ මුදිතාව නිසා. තමන්ගේ අසල්වැසියා හොඳට ගෙයක් දොරක් හදාගෙන දියුණු වෙනවා දකිනකොට ඔහුට හදවතින්ම ආශිර්වාද කරන්නෙ, පුදු පුලුවන් විදියට උදව් කරන්නෙ මුදිතාව නිසා. අනුන්ගේ දියුණුව දැක සතුටු වන්නේ මුදිතාවෙන්. මුදිතාව කියලා කියන්නේ හිතක් ඇතුලේ උපදවගත්තොත් මේ ගතවෙන මනුස්ස ජීවිතේ හරි සන්තෝෂෙන් ඉන්න පුලුවන් එකක්. ඊර්ෂ්‍යාව වගේ දේවල් පින්වතුනි හිතේ හටගත්තට පස්සෙ පිච්චි පිච්චි ඉන්න එපැයි. මනුස්සයෙක් ලස්සනට හිටියත් මෙහේ පිච්චෙනවා. මනුස්සයෙක් හොඳ වාහනයක ගියත් පිච්චෙනවා. යම් මනුස්සයෙක්ගේ දරුවො හොඳට ඉගෙන ගන්නවා නම් ඒත් පිච්චෙනවා. ඊර්ෂ්‍යාව තියෙද්දි තියෙන්නෙ පිච්චිල්ලමයි, කබලක් උඩ ඉන්නවා වගේ. ඊර්ෂ්‍යාව වෙනුවට අපි එකතු කරගත්තොත් සුන්දර මුදිතා. මුදිතාව උපදවගත්තු කෙනා හරි සන්තෝෂෙන් ඉන්න කෙනෙක්. ලස්සන රූපයක් තියෙන කෙනෙක් දකිනකොට එයාට හදවතින්ම එන්නෙ සතුටක්. අනේ සසරේ පින් කරපු කෙනෙක් ලස්සන වෙලා ඉපදිලා. මේ කෙනාගේ ලස්සන නැසෙන්න එපා. කටහඬ ලස්සන අය ඉන්නවා. ඒ කටහඬ ලස්සන කෙනෙක් දකිද්දි එයාගේ කටහඬ අහන්න ලැබෙද්දී හදවතින්ම සතුටක් එනවා නම්, අනේ ලස්සන කටහඬක්, මිහිරි කටහඬක්. එයාගේ කටහඬින් එයාට තව තවත් ලස්සන දේවල් ලෝකෙට කරන්න ලැබේවා. හදවතින්ම පතනවා. තව කෙනෙකුට හොඳ දක්ෂතා තියෙනවා. යම් ක්ෂේත්‍රයක් තුල එයා වේගයෙන් දියුණු වෙලා යනවා. එයාට වේගයෙන් යමක් අල්ලගන්න පුලුවන්. අපි දකිනවා ඒක. අපිට එතකොට හදවතින්ම ආශිර්වාද කරන්න පුලුවන් නම් අනේ ඒ කෙනාට හොඳ දක්ෂතා තියෙනවා, ඒ දක්ෂතා විනාශ වෙන්න එපා, ඒ දක්ෂතා දියුණු වේවා. ඒ දක්ෂතා වලින් එයාට ලැබෙන යම් යහපතක් තියෙනවා නම් ඒක එයාට සුවසේම ගන්න ලැබේවා. මෙහෙම මුදිතා හිතක් කෙනෙකුට

තියනෙවා නම් ඒ මුදිතා හිත තියෙන කෙනා නිසා ලෝකයාටම යහපතක් සැලසෙනවා. ඒ ලෝකයාට සැලසෙන යහපත එක පසෙකින් තිබ්බේවා. ඇත්තටම පින්වතුනි මුදිතාව කියන එක මේ සන්තානය ඇතුලේ අපේ ළඟ තියෙනවා නම් සැප විඳින්නෙ අපි. බුදුරජාණන් වහන්සේ භික්ෂූන් වහන්සේලාට වදාළ දෙයක්, නිතරම මුදිතාවෙන් ඉන්න කියන එක. මුදිතාවෙන් ගෙවෙද්දී අර්ථය හටගන්නේ නැත. ඒ නිසා බුදුරජාණන් වහන්සේ හරියට වදාලා මුදිතා චිත්තය. ඇයි දැන් සමහර වෙලාවට ඔන්න එකට ස්වාමීන් වහන්සේලා ඉන්නකොට ඒ ස්වාමීන් වහන්සේලාගෙන් ඇතැම් ස්වාමීන් වහන්සේ නමකට හොඳට ධර්මය මතක හිටිනවා, තව කෙනෙකුට එහෙම මතක හිටින් නෑ. අපි හිතමු මහණ වෙච්චි ස්වාමීන් වහන්සේ මතක හිටින ස්වාමීන් වහන්සේට ඊර්ෂ්‍යා කරන්න පටන් ගත්තොත් එහෙම, ඒ ස්වාමීන් වහන්සේට පැවිද්දත් අවසානයේ එපා වෙනවා. සමහර ස්වාමීන් වහන්සේලා ධර්මය ඉගෙන ගෙන ඒ ධර්මය ගිහි පිරිසට කියාදෙනකොට ඒ දහම් කතාව හරි ලස්සනයි. ඒ ස්වාමීන් වහන්සේගෙන් බණ අහන්න මිනිස්සු කැමැතියි. අනික් ස්වාමීන් වහන්සේ බණ කියනවා, ඒක එච්චර ආකර්ශණීය නෑ. එක එක්කෙනාගේ වාග් ශෛලිය විවිධ නැද්ද, විවිධයි. එතකොට බණ කියන්න එච්චර දක්ෂ නැති ස්වාමීන් වහන්සේ, බණ කියන්න දක්ෂ ස්වාමීන් වහන්සේට ඊර්ෂ්‍යා කලොත්. ඒ ඊර්ෂ්‍යා කරන ස්වාමීන් වහන්සේටමයි වෙහෙස. ඒ ස්වාමීන් වහන්සේ අනිත් ස්වාමීන් වහන්සේටත් ආශිර්වාද කරනවා, අනිත් ස්වාමීන් වහන්සේටත් උදව් උපකාර කරනවා. මුදිතාව ඇති තැන සැප තියෙනවා. ඒ නිසා බුද්ධ ශාසනයේ පැවිදි වෙන භික්ෂුවට බුදුරජාණන් වහන්සේ විශේෂයෙන් වදාළා මුදිතා චිත්තයෙන් වාසය කරන්න මහණෙනි, මුදිතා චිත්තයෙන් වාසය කරන කෙනා කාමය අත්හැරලා පැවිදි වෙච්චි කෙනත් යළි පිරිහෙන්නෙ නෑ. යළි කාමයට වැටෙන් නෑ මුදිතාව තියෙනවා නම්. ඒ නිසා මුදිතාව කියලා කියන්නෙ හරිම ලස්සන ගුණයක්. බලන්න මුදිතා ගුණය තිබ්බෙ නැති තැන වෙච්චි අවුල. හරි ගුණයහපත් බිරිඳක් හිටියා ඇයට ඊර්ෂ්‍යා කලා. ඇයට ඊර්ෂ්‍යාකාරකම් කරන්නැතිව එදා ඇගේ ගුණධර්ම තමන් ටික ටික හදාගන්න මහන්සිගත්තා නම්, ඇය ස්වාමියා කෙරෙහි දක්වන ආදරය, භක්තිය, ගෞරවය තමනුත් හදාගන්න කල්පනා කලා නම්, ස්වාමියාට කේලම් කිය කිය එක එක ඒවා කරලා මේ ඊර්ෂ්‍යාකාරකම් කරන්න ගිහිල්ලා ඔන්න හදාගත්තා තව අවුලක්. ඒ අවුල හින්දා තමයි කියනවා මං දාසියක් වගේ මගේ ස්වාමියාට උපස්ථාන කරද්දීත් ස්වාමියා මාව අත්හැරලා යන්නෙ ඒ අකුසලයේ

විපාකයටයි. ඉසිදාසි විදියට මේ ජීවිතේ අය පතිකුලයට ගිහිල්ලා ලේලි විදියට, එහෙම නැත්නම් බිරිඳ විදියට ඒ ස්වාමිපුරුෂයාටත්, ස්වාමිපුරුෂයාගේ නිවසේ අයටත් දාසියක් වගේ ඉද්දිත් ස්වාමිපුරුෂයාට ඇයව අප්පිරියා වෙන්න හේතුව ඕක කියනවා. හැබැයි අවසානයේ ඇය මෙන්න මෙහෙම කියනවා, ඉසිදාසි අර්හත් උත්තමාවිය. මං දැන් ඒ කර්මයත් අවසන් කලා. බුදුරජාණන් වහන්සේගේ ධර්මයේ අසිරිය. භාග්‍යවතුන් වහන්සේගේ ධර්මය කියලා කියන්නෙ පින්වතුනේ සසරේ තියෙන දෝෂ සියල්ල සංසිඳුවාගෙන ඒ දොස් ඔක්කොම හදාගෙන පරිපූර්ණ වශයෙන් සැනසෙන්න පුලුවන් නම් ඒ බුදුරජාණන් වහන්සේගේ ධර්මයෙන්මයි. වෙන එකක් නෑ. ඒ බුදුරජාණන් වහන්සේගේ ධර්මයෙන්මයි ජීවිතයට සැනසිල්ල. ඒක ඔප්පු වෙනවා මේ රහතන් වහන්සේලාගේ රහත් තෙරණින් වහන්සේලාගේ චරිතාපදාන ඉගෙන ගන්නකොට. ඒ නිසා හොඳට හිත පහදවගන්න භාග්‍යවතුන් වහන්සේගේ උතුම් සද්ධර්මය ගැන. අපි සංසාරේ කරපු විශාල පින්කමකට අපිට බණපද අහන්න ලැබෙනවා මේ ජිවිතේ. මේ ජිවිතේදි අහන්න ලැබෙන බණ පද වලට හොඳට හිත් පහදවන්න පින්වතුනි. හොඳට හිත් පහදවාගෙන මේ සාංසාරික ගමන ගැන තේරුම් ගන්න. කර්ම කර්ම විපාක ගැන තේරුම් ගන්න. ඒ පිළිබඳව අදහස් ඇතිව තමන්ගේ ජීවිතය පරිස්සමින් ගත කරන්න. කය පාවිච්චි කරනකොට පරිස්සමින් කය පාවිච්චි කරන්න. කටින් වචන කතා කරනකොට පරිස්සමින් වචන කතා කරන්න. මේ හිත කියලා කියන්නෙ තමන්ගේ අභ්‍යන්තරයේ තියෙන එකක්. ඒක ගැනදන්නෙ තමන්. ඒ නිසා තමන් ජීවත් වෙනකොට තමන්ගේ හිතට එකඟව ජීවත්වෙන්න. හිතේ ලස්සන දේවල් තියාගන්න. මෛත්‍රිය, කරුණාව, මුදිතාව, උපෙක්ෂාව මේවා ලස්සන ගුණ. බුදුරජාණන් වහන්සේගේ ගුණ හිත හිත ඉන්න එක, ධර්මයේ ගුණ හිත හිත ඉන්න එක, සඟරුවනේ ගුණ මේ රහතන් වහන්සේලා, අර්හත් උත්තමාවියො ගැන හිත හිත ඉන්න එක, මේ වගේ ලස්සන දේවල් ගැන හිත ඇතුලේ තියාගන්න. මේ හිත කියන එකේ අපේ ජීවිත අභ්‍යන්තරයේ අපි මොකට කුණු තියාගෙන ඉන්නවාද. ඒ නිසා සිත කය වචනය හරි විදියට හසුරුවා ගන්න. එහෙම හසුරුවාගත්තොත් සද්ධර්මය මුණගැහිච්චි ජීවිතේ අපිට විශාල යහපතක් අපේ ජීවිතේට සලසාගන්න පුලුවන් වේවි. ඉතින් අදත් අපි ඉගෙන ගත්තෙ ඉසිදාසි අර්හත් උත්තමාවියගේ ඒ උතුම් ගාථා. ඉසිදාසි අර්හත් තෙරණියට වන්දනා කරමින් අපිත් අධිෂ්ටාන කරමු තෙරුවන් සරණ යන්න ලැබිච්චි මේ දුර්ලභ මනුස්ස ජීවිතේ අපිටත් බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක

ශ්‍රාවිකාවේ විදියට සුවසේ පින් පුරාගෙන සුවසේ දහමේ හැසිරී මේ ගෞතම ශාසනය තුළම රහතන් වහන්සේලා සැනසුනු රහත් තෙරණින් වහන්සේලා සැනසුන අමෘත නිවනේ සැනසෙන්න වාසනාව ලැබේවා, සාදු සාදු සාදු!!!

රැස් කරගන්න යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් සියලු දෙවියෝ සතුටු සිතින් අනුමෝදන් වෙත්වා. පින් අනුමෝදන් වන දෙවිවරු දිව්‍ය සැපයෙන් දිව්‍ය ආශ්චයර්යයෙන් වැඩෙත්වා. ඒ හැම දෙවියෝ ධර්ම දානය සිදු කරන පින්වතුන්ලා ප්‍රධාන පින්වත් හැමදෙනාට සියලු ආශිර්වාද සලසාදෙත්වා. සියලු දෙවියන්ට ගෞතම ශාසනය තුළම ධර්මාවබෝධ කරන්න වාසනාව ලැබේවා. සාදු සාදු සාදු!!! ගුරුදේවෝත්තම, කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට සියලු පින් අනුමෝදන්ව නිදුක් නිරෝග සුව සැලසේවා, දීර්ඝායුෂ සැලසේවා. ගෞතම ශාසනය තුලම උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කරගන්න යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව ඔබ වෙතට අරගෙන එද්දී ධර්ම දානය සිදු කලා වූ පින්වතුන්ලා මූලික වශයෙන් බලාපොරොත්තු වෙන පරිදි ජූලි මාසෙ 27 අද දවසේ හතරවන උපන්දිනය සමරන පින්වත් අභිනූ මිහිනිල සිඟිති පුතාට මේ ධර්මදානමය වශයෙන් රැස් වූ සියලු පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදය, බුද්ධ රත්නයේ ආශිර්වාදය, ධර්ම රත්නයේ ආශිර්වාදය, මහා සංඝරත්නයේ ආශිර්වාදය, ඒ වගේම පින් පෙත් අනුමෝදන් වෙලා සතුටු වෙන සියලූ දෙව් දේවතාවුන් වහන්සේලාගේ ආශිර්වාදය නොඅඩුවම සැලසෙත්වා. ඒ සිඟිති පුතාට තෙරුවන් සරණින් නිදුක් නිරෝග සුවය, දීර්ඝායුෂම සැලසේවා. මේ ලැබිච්චි දුර්ලභ මනුස්ස ජිවිතේ කල්‍යාණමිත්‍ර සත්පුරුෂයෝම ඇසුරු කරන්න ලැබේවා. බුදුරජාණන් වහන්සේ සරණ ගියපු ශ්‍රාවක පුතෙක් විදියට සම්බුද්ධ ශාසනයේ පිළිසරණ ලබන්න ඒ සිඟිති පුතාට වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයෝ අපි අනුමෝදන් කරමු අද ධර්ම දානය සිදු කරනු ලබන පින්වත් දුමින්දිකා ගයත්‍රි මහත්මියගේ නමිනුත් යොහාන් චතුරංග මහත්මාගේ නමිනුත් මියපරලොව යන්න යෙදුනා වූ සියලූම ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට මේ සියලු පින් අනුමෝදන්ව ඒ ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපටයම පත්වෙත්වා, අපගේ ඥාතීන්ට සංසාර දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනාව සිදු කරන්න. මේ වෙනකොට රෝගීව සිටින පින්වත් ප්‍රේමරත්න පතිරණ පියාණන්ට මේ සියලු පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදයෙන් ඉතා ඉක්මණින්ම

නිදුක් නිරෝග සුව සම්පත්තිය සැලසේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. ප්‍රින්සි ප්‍රේමකාන්ති මෑණියන්ටත්, හේමලාල් ජයසිරි පියාණන්ටත්, ආර්.පී. සෝමලතා මෑණියන්ටත් පින් අනුමෝදන්ව නිදුක් නිරෝගී සුවපත් භාවය ලැබෙත්වා. ජූනි මාසෙ 05 වන දින උපන්දිනය සැමරූ පින්වත් දුමින්දිකා ගයත්‍රී මහත්මියටත් ජූලි 18 වන දින උපන්දිනය සැමරූ පින්වත් ඩිලාන් රිවිහාර මහත්මාටත්, ජූලි මාසෙ 29 වෙනි දින උපන්දිනය සමරන පින්වත් රචිත සංකල්ප පුතණුවන්ටත් මේ සියලුම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන් වෙත්වා. අද ධර්ම දානය සිදු කරන නො.48/58, ගලවිලවත්ත පාර, මාලපල්ල, කොට්ටාව යන ලිපිනයේ පදිංචි පින්වත් දුමින්දිකා ගයාත්‍රි මහත්මිය, යොහාන් චතුරංග මහත්මා යන ඒ පින්වතුන්ලා ප්‍රධාන පවුලේ සෑම දෙනාට පින් අනුමෝදන්ව සියලු දෙනා කරන කියන රැකී රක්ෂා ආදී සියලු කටයුතුත් දූදරු මුණුබුරු මිණිබිරියන්ගේ අධ්‍යාපන කටයුතු ආදියත් සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා. සියලු යහපත සැලසෙත්වා. පින්වතුන්ලා හැමදෙනාටම තෙරුවන් සරණින් සුවසේ දහම් මග දියුණු කරගන්න සුවසේ පින් රැස් කරගන්න අවකාශ සැලසෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත් ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සෑම සියලු දෙනාටත් සුපින්වත් ඔබ හැමදෙනාටත් මේ ගෞතම ශාසනයේ ධර්මාවබෝධ කරන්න වාසනාව ලැබේවා. ඔය හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=ylsnkgrAiP8

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදු සාදු සාදු!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, අද දවසේ ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු මේ උතුම් වූ සද්ධර්ම දේශනාවට අනුග්‍රහය දරනු ලබන්නේ මීට වසර දහතුනකට පෙර ජූලි මාසෙ 27 වන දිනයකදී මියපරලොව යන්නට යෙදුනු පින්වත් ඩී.එන්. ලීලාවතී මැණිකේ අත්තම්මාගේ ගුණානුස්මරණ දිනය වෙනුවෙන් ඒ නිමිති කරගෙන පින්වත් උදුලබණ්ඩාර මහත්මා, සුධර්මා කුමාරිහාමි මහත්මිය, විපුල් කුලතුංග මහත්මා, වසන්තා කුලතුංග මහත්මිය, දයානන්ද මහතා සහ කල්‍යාණි ඒකනායක මහත්මිය ඇතුළු ඒ පවුලේ සෑම සියලු දෙනා එකතු වෙලා ධර්ම දානය සිද්ධ කරන්නෙ මූලික අරමුණක් ප්‍රධාන අරමුණක් මේ විදියට සඳහන් කරමින්, භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ශ්‍රී සද්ධර්ම රත්නයේත් ආර්ය මහා සංඝරත්නයේත් කියන මේ තෙරුවනේ සරණ ආරක්ෂාව පිහිට අප හැමදෙනාගේ ජීවිත වලට සැලසේවා කියන අදහසිනුයි ධර්මදානමය පින්කම ඒ පින්වතුන්ලා විසින් සිද්ධ කරන්නෙ. තෙරුවන් සරණ, ඒතං කො සරණං කේමං - මේ ලෝකේ යම් බිය රහිත වූ සරණක් වේද, ඒ තෙරුවන් සරණයි. ඒතං සරණං උත්තමං - මේ ලෝකෙ යම් උතුම් වූ සරණක් වේද, ඒ තෙරුවන් සරණයි. ඒතං සරණ මාගම්ම සබ්බ දුක්ඛා පමුච්ඡති - යම් සරණක් තුළට පැමිණ ජීවිතේ තියෙන සියලු උවදුරු උපද්‍රව කරදර බාධා සන්තාප දුරු වේද, සියලු දුකින් නිදහස් වීම පිණිස පවතින සරණ තෙරුවන් සරණයි. ඇත්තෙන්ම පින්වතුනේ මේ දුර්ලභ මනුස්ස ජීවිතේ ලැබූ අපි හැමදෙනාගේ හදවත් වල, අපි හැමදෙනාම පිහිටවා ගත යුතු දෙයක් මේ ජීවිතේ තුළ මමනම් උතුම් තෙරුවනේ සරණ ලබාගන්න ඕන. මේ ජීවිතේ තුළ මම උතුම් තෙරුවනේ පිහිට සළසාගන්න ඕන කියන උතුම් අදහස. තෙරුවන් සරණ තුළට පැමිණිලා ජීවිතේ පරිපූර්ණ වශයෙන් සැපවත් කරගත්ත ඒ උතුම් රහතන් වහන්සේලා ගැන, ඊළඟට රහත් තෙරණින් වහන්සේලා ගැන අපි මේ වැඩසටහන් මාලාවේදී ඉගෙන ගන්නෙ. අද අපි ඉගෙන ගන්නෙ සුමේධා නම් වූ රහත් තෙරණියගේ ගාථා. ථේරීගාථා පොත් වහන්සේගේ මහානිපාතය කියන අවසාන කොටසේ මේ උත්තමාවියගේ ගාථා සඳහන් වෙන්නෙ. පින්වතුනේ ගාථා විශාල ප්‍රමාණයක්, ඒ නිසා අපිට මේ අර්හත් තෙරණියගේ ගාථා අද දවසේ කරන මේ එක වැඩසටහනකින් ඔබට විස්තර කරන්නෙ නෑ. ඉතින් අද සුමේධා අර්හත් තෙරණියගේ ගාථා වලින් කොටසක් අපි ඉගෙන ගනිමු, අපේ ජීවිතයට බොහෝ සෙයින් වටින. අපිට මේ ජීවිතේ ගැන බොහෝ දේ කියාදෙන ගාථා, ඒ අර්හත් උත්තමාවිය වදාළා. ඇත්තෙන්ම පින්වතුනේ අපි නොයෙක් විෂයධාරා මේ ජීවිතය ගතකරද්දි

ඉගෙන ගන්නවා එක එක දේවල් උදෙසා. ජීවිතේ ගතකිරීම උදෙසා, ජීවිතේ පවත්වාගැනීම උදෙසා එක එක විෂයන් අපි ඉගෙන ගත්තත් ජීවිතේ ගැන හරියටම ඉගෙන ගන්න ඕන නම් අපි ඉගෙන ගත යුත්තේ බුදුරජාණන් වහන්සේගේ ධර්මයයි. ජීවිතය ගැන ඉගෙන ගන්න ඕන නම් ජීවිතය ගැන හරියටම කියලා දෙන්නෙ බුදුරජාණන් වහන්සේගේ ධර්මය තුළ. ජීවිතේ ගැන හරියට ඉගෙන ගෙන ජීවිතේ සම්පූර්ණයෙන් සැපවත් කරගත්ත සුමේධා රහත් තෙරණියගේ ගාථා. ඒ ගාථා වල කියවෙන්නේ මෙන්න මේ විදියට. මන්තාවතී නගරයේ කොන්ච කියන රජ්ජුරුවන්ගේ අගමෙහෙසියට දුවක් හිටියා, එයාගේ නම සුමේධා. එතකොට මේ සුමේධා කියන්නෙ මන්තාවතී කියන නගරයේ, දඹදිව තිබුනේ. එහෙ රජකම් කලා කොන්ච කියලා රජෙක්. අන්න ඒ කොන්ච රජ්ජුරුවන්ගේ දුව. එයා බුද්ධ ශාසනය ගැන ගොඩාක් පැහැදිලයි හිටියේ. ඇත්තෙන්ම එයා සිල්වත්. ලස්සනට කතා කරන්න දන්නවා, ඒ වගේම බහුශ්‍රැතයි. රජදුවක් වෙලා ඉද්දීම බුදුරජාණන් වහන්සේගේ ධර්මය ඉගෙන ගෙන බහුශ්‍රැත භාවයට පත්වෙලා හිටියා, හොඳට සිල්වත් වෙලත් හිටියා. ඒ වගේමයි ඇයට හරි ලස්සනට ධර්මය කියාදෙන්න හැකියාවකුත් තිබිලා තියෙනවා. ඈ බුදුසසුනේ හික්මිලා ඉන්නෙ. ඉතින් මේ සුමේධාව තරුණ වයසේම මෙහෙම බුද්ධ ශාසනය තුලට පැමිණිලා, සිල්වත් වෙලා, බහුශ්‍රැත වෙලා වාසය කරද්දි මේ සුමේධාගේ දෙමව්පියෝ තීරණය කලා, කලවයස පැමිණුනාම ඇයව විවාහ කරවලා දෙන්න. මේ වෙනකොට සුමේධාට අවුරුදු 16ක් වගේ. රජකුමාරිකාව. ඇයව තවත් රජකුලයකට විවාහ කරලා දෙන්න මේ කොන්ච රජ්ජුරුවො ඇතුළු රාජකීය පිරිස සූදානම් වුනා. සුමේධාට කතා කරලා මේ ගැන කියනවා. මේ ගැන කියනකොටයි සුමේධාගේ අදහස ඒ ඇයන්ට දැනගන්න ලැබුනේ. මේ සුමේධා කියලා කියන්නෙ බුදුරජාණන් වහන්සේගේ ධර්මය පුරුදු කරද්දි ධ්‍යාන සුව වින්ද කෙනෙක්. ධ්‍යාන සුව වින්ද කෙනෙක් පින්වතුනේ සැප අතරේ උතුම් සැප වන්ද අය. අපි සැප, සැප කියලා මේ ලෝකෙ හොයන්නේ කාමයනෙ. කාමය කියලා කියන්නෙ හීන සැපයක්. බුදුරජාණන් වහන්සේ නමකගේ ධර්මය තුළින් උපදවා ගන්න සැප තියෙනවා. නෙක්ඛම්ම සැප, කාමයන්ගෙන් නික්මීමෙන්, කාමයන්ගෙන් දුරස් වීමෙන්, කාමයන්ගෙන් ඈත් වීමෙන් ලැබෙන සැප. පවිවේක සුක - හුදෙකලාවේ ධර්මය තුළ විඳින සැපය. උපසම සුඛ - කෙලෙස් සංසිඳවලා ලබන සැපය, දැන් ධ්‍යානයක් උපදවාගන්නකොට නීවරණත් සංසිඳවනවා. කාමච්ඡන්ද, ව්‍යාපාද, ථීනමිද්ධ, උද්ධච්චකුක්කුච්ච, විචිකිච්ඡා මේවා සංසිඳවන්න එපැයි ධ්‍යාන

උපද්දවන්න. එතකොට මේ අකුසල් සංසිඳුනාම තියෙන සැපය, ඒකට කියනවා උපසම සැප. ඊළඟට සම්බෝධ සුඛ - ජීවිතය ගැන හරියට තේරුම් ගනිද්දී ඇතිවෙන සැප. ජීවිතේ ගැන හරියට තේරුම් ගන්නෙ නැතිව මුලාවෙන් ලබන හීන සැපයට වඩා අතිශයින්ම අග්‍රයි ජීවිතේ ගැන තේරුම් අරගෙන ලබන සැප. දැන් මේ සුමේධා රජදුවක් විදියට. තරුණ වයසේදීම මේ සැප හතරම වින්ද කෙනෙක්. ඇය කැමැති නෑ කාම සැපයට. ඈ කැමැති නෑ විවාහ ජීවිතයකට. දෙමව්පියෝ මේ විවාහය ගැන කතා කරනකොට ඈ තමන්ගේ අම්මටයි තාත්තටයි කියනවා, අම්මෙ තාත්තෙ අනේ මං කැමැති නෑ විවාහයකට, මං කැමැති පැවිදි වෙන්නයි. දෙමව්පියො ළඟට ගිහින් සුමේධා කිව්වා, ඔයාලා දෙන්නාම මං කියන දේ අහන්න. නිබ්බාණාබි රතාහං - අම්මේ තාත්තෙ මං කැමැති නිවනටයි. අසස්සතං භවගතං යදිතේ දිබ්බං - දෙව්ලොව ඉපදුනත් ඒ භවය ස්ථිර එකක් නෙවෙයි. කිමංග පන තුච්ඡා කාමා - මේ මිනිස් ලෝකයේ කාම සම්පත් ගැන කතා කරන්න දෙයක් නෑ, ඒවා තුච්ඡයි. තුච්ඡයි කියලා කිව්වෙ ලාමකයි, හීනයි කියන අදහස. අප්පස්සා දා - මේ කාමය තුළ තියෙන්නෙ අල්ප ආශ්වාදයක්. බහුවිඝාතා - අම්මෙ තාත්තෙ කාමයේ ආදීනවමයි වැඩි. මෝඩ ජනතාව කාමයෙන් මුසපත් වෙලා හිටියත් කාමයන් හරිම කටුකයි. මුලාව තුළ වාසය කරන ජනතාව මේ කාමයෙන් මුසපත් වුනත්, ලස්සන රූප ඉස්සරහා මුලාවෙන් වාසය කරන ජනයා මුසපත් වෙනවා. මිහිරි හඬ ඉස්සරහා මුසපත් වෙනවා. සුවඳ ඉස්සරහා මුසපත් වෙනවා. රසට මුසපත් වෙනවා, පහසට මුසපත් වෙනවා, ඒ මුසපත් වුනාට මොකද, ඈ කියනවා මේ කාමයන් හරිම කටුකයි. භයානක සර්ප විෂ වගේ. සර්පයා දෂ්ට කරන තැන චූටියි. සර්ප දෂ්ටයක් සිද්ධ වුනාම දත් පාරවල් දෙකයි වදින්නෙ. ඒ වුනාට ඒ විසට පුලුවන් මුලු ජීවිතේම වනසන්න. අර දත් පාරවල් දෙකෙන් චූටි සිදුරකින් ශරීරයට දාන විසට පුලුවන් මුලු ජීවිතේම වනසන්න, කාමයත් ඒ වගේ. එක රූපෙකට පුලුවන් ජීවිතේම වනසන්න. එක හඬකට පුලුවන් ජීවිතේම වනසන්න. එක රසකට පුලුවන් ජීවිතේම වනසන්න. එක පහසකට පුලුවන් ජීවිතේම වනසන්න. මෝඩ ජනතාව කාමයේ පස්සෙ ගිහින් අන්තිමේදි නිරයේ වැටෙනවා, අනන්ත දුක් විඳිනවා. බලන්න රජ සැප විඳපු රජ දුවක් බුදුරජාණන් වහන්සේගේ ධර්මය ගැන කොච්චර බහුශ්‍රැත වෙලාද. සෝචං ති පාපකම්මා විනිපාතෙ පාප බුද්ධිමො සදාකායේන වාචාය මනසා ච අසංයුතා - ඈ කියනවා පාප බුද්ධිය ඇති කරගෙන පව් කරලා සිත කය වචනය යන තුන්දොරින්ම පව් කරලා නිරයේ ඉපදිලා ශෝක කරනවා. පාප බුද්ධිය. පාප බුද්ධිය කියලා කිව්වෙ

ලාමක ඥාණය, නුවණ නෙවෙයි ඒක, ලාමක ඥාණය. පාප බුද්ධි. කාමය හොයන්න කාමය පස්සේ යන්න කාමය අයිති කරගන්න ඥාණය තියෙනවා. හොඳට කට්ටකෙරාටිකකම තියෙනවා. සල්ලි හොයන්න හොඳට කපටියි. අනිත් මිනිස්සුන්ව රවට්ටලා හරි දියුණ වෙන්න කපටියි. අනිත් මනුස්සයාට කකුල් මාට්ටුව දාගෙන හරි ඉස්සරහට යන්න කපටියි. අන්න ඒකට කියනවා පාපබුද්ධි. හොඳින් හෝ නරකින් හෝ කාමය ගොඩගහගන්න ඒ කෙනාට ඥාණය තිබේ. ඒ පාපබුද්ධියයි. එයා තමාගේ දියුණුව උදෙසා ප්‍රාණඝාතය වුනත් කරනවා. මේ කාලයේ සත්තු මරලා හොඳට හොයන්න පුලුවන්. සත්තු මැරුවොත් මේ කාලෙ හොඳට හොයන්න පුලුවන් කියලා ඔන්න කෙනෙක් ධනවත් වෙන්න කල්පනා කරනවා. මේ කාලෙ හොරකමෙන් හොඳට හම්බකරන්න පුලුවන්. මේ මේ විදියට හොරකම කරන්න පුලුවන් කියලා ඒකට ප්ලෑන් යොදනවා, ඒකට නුවණක් ඕන නැද්ද. ඒකට නුවණක් ඕන, ඒකට කියනවා පාපබුද්ධි. කාමය පතන මෝඩ ජනතාව පාපබුද්ධියට අනුව කටයුතු කරනවා. දැන් මනුස්සයා අතරේ පේනවානෙ පින්වතුනේ මේ ව්‍යාපාර කටයුතු කරද්දි සාමාන්‍ය ජනතාව ගැන කිසිම අනුකම්පාවක් මෛත්‍රියක් කරුණාවක් නැතිවයි මේවා කරන්නෙ කියලා. නොයෙක් ආහාරපාන වලට කොච්චර විස දානවද. ඒ ආහාරපාන සකස් කරන අය දන්නවානෙ මේවා විස කියලා. අහිංසක මිනිස්සු මේවා අනුභව කරනවා, ඒක ගැන හැඟීමක් නෑ. කොහොමහරි අපි දියුණු වුනා නම් ඇති. අපේ බිස්නස් එක සරු වුනා නම් ඇති. පාප බුද්ධි. ඒ පාපබුද්ධියට අනුව කටයුතු කරලා ඒ අය පව්ම කරගෙන නිරයේ ඉපදිලා ශෝක කරනවා. බාලාතේ දුප්පඤ්ඤා අචේතනා දුක්ඛ සමුදයෝ රුද්ධා දේසෙන්ති අජානංතාන බුජ්ඣතෙ අරියසච්චානි - හරිම ලස්සනයි. ප්‍රඥාවක් නැති සිතීමේ හැකියාවක් නැති ඒ මෝඩ ජනතාව දුක්ඛ සමුදයේ බැසගෙන සංසාරයට අහුවෙලා ඉන්නවා. ප්‍රඥාවක් නෑ කියලා මෙතන කිව්වෙ පින්වතුනේ හැබෑ ප්‍රඥාව, ජිවිතේ දිනන ප්‍රඥාව, ජීවිතේ සැපවත් කරන ප්‍රඥාව. ඒ ප්‍රඥාව කොහොමද ලබන්නෙ? තුන්ලොව දිනූ බුදුරජාණන් වහන්සේගෙන් ඇහුවා කෙනෙක් කතං සු ලබතේ පඤ්ඤා? ස්වාමීනී ජීවිතය දිනන ප්‍රඥාව කෙසේ ලබම්ද? සධානෝ අරහතං ධම්මං නිබ්බාන පත්තියා - බුදුරජාණන් වහන්සේ වදාළා අමා නිවනට කැඳවන, පරම ශාන්තියට කැඳවන ධර්මය දේශනා කරන කල්හි සුස්සුසා - සවන් පත් යොමාගෙන ඒ දහම ඇසිය යුත්තේය. අප්පමත්තො විචක්ඛණො - ප්‍රමාද නොවී ඒ ධර්මයට අනුව කල්පනා කල යුත්තේය. ලබතේ පඤ්ඤං - එතකොට ප්‍රඥාව ලැබෙයි. අන්න ඒ ප්‍රඥාව

ලබාගත්තේ නැති උදවිය, ඊළඟට සිතීමේ හැකියාවක් නැති උදවිය, තමන්ගේ චින්තන ශක්තිය හරියට පාවිච්චි කරන්න හැකියාවක් නැති අය. අනේ මේ මනුස්සයාට අනුකම්පා කළ යුතුයි කියලා හිතාගන්න බැරි අය. ලෝකය දිහා බලලා කල්පනා කරගන්න දක්ෂකම නැති අය. අපි හැමදාම ඉන්නෙ නෑ කියලා තේරුම් ගන්න දක්ෂකම නැති අය. ඒ අයට සිතීමේ හැකියාව නෑ. ප්‍රඥාවකුත් නැති, සිතීමේ හැකියාවකුත් නැති මෝඩ ජනතාව අනුවෙනවා කියනවා දුක්ඛ සමුදයට. දුක්ඛ සමුදය කියලා කිව්වෙ මොකක්ද පින්වතුනි, තෘෂ්ණාව. තෘෂ්ණාවට අනුවෙනවා. තණ්හාවට දාසයා වෙලා. තණ්හාවට දාසයා වුනාට පස්සෙ ස්වාමියා තමයි තණ්හාව. ඇහෙන් රූප බලන්න ආසා හිතෙනකොට තණ්හාව කියන ස්වාමියා කියනවා අන්න රූපයක්. හරි අගෙයි බලාපන් කියනවා. එතකොට දාසයා, දාසයාගේ ස්වභාවය කොහොමද, ස්වාමි දාස සම්බන්ධය කොහොමද? ස්වාමියා එහෙම නැත්නම් හාම්පුතා කියනවා අහවල් දේ කරපං, එතකොට දාසයා එහෙයි කියලා ඒක කරනවා. අහවල් තැනට පලයං, එතකොට දාසයා එහෙයි කියනවා. අන්න ඒ වගේ තමයි තණ්හාවට දාසයා බවට පත්වුනේ. ඇහෙන් රූප බලාපං කියනකොට එහෙයි කියලා ඕන එකක් බලනවා. අන්න හරි අගේ ඇති හඬක් අහපං කියනවා. එහෙයි කියලා අහනවා. හරි ෂෝක් කෑමක්. රහ බලාපං, එහෙයි කියල රහ බලනවා. ඉතින් මේ තමයි තණ්හාවට දාසයා වීම. දුක්ඛ සමුදය මුලට ගැනීම. ආර්ය සත්‍යයක් දේශනා කරලා තිබෙද්දීත් ඔවුන් ඒවා තේරුම් ගන්නෙ නෑ. අවබෝධ කරගන්නෙ නෑ. අම්මෙ, ශ්‍රේෂ්ට වූ බුදුසමිඳුන් දේශනා කොට වදාළ චතුරාර්ය සත්‍යය නොදන්නා ජනතාවමයි වැඩියෙන් ඉන්නෙ. ඔවුන් ගොඩාක් කැමැති දෙව්ලොවක ආයෙමත් උපදින්නයි. චතුරාර්ය සත්‍යය ධර්මය ගැන නොදන්නා උදවිය, මේ ජීවිතේ දුකක්, දුකට හේතුවක්. දුක නිරුද්ධ කිරීම නම් වූ අමෘත නිවනක්, ඒ නිවන කරා යන්න යහපත් වූ ප්‍රතිපදාවක්, ආර්ය අෂ්ටාංගික මාර්ගය තියෙනවා කියලා නොදන්න අය මේ ජීවිතේ ලොකුම දේ කියලා සළකන්නෙ මොකක්ද. සුගති උපත. මේ ජීවිතේ තුළ අපිට කරගන්න තියෙන ලොකුම දේ තමයි දෙව්ලොවකට යාම. දැන් අනිත් බාහිර දර්ශන බලන්න. බුදුරජාණන් වහන්සේගේ දර්ශනයෙන් පරිබාහිර බොහෝ ආගම් වල තියෙන්නෙ, මේකෙ හොඳට ඉඳපං, මේකෙ හොඳට ඉඳියොත් එහෙම උඹට යන්න පුලුවන් දෙවියන් වහන්සේ ළඟට. සර්ව බලධාරී කෙනෙක් ළඟට. අසවල් අසවල් නම් ඇති දෙවියා ළඟට. එහෙ ගිහිල්ලා ස්වර්ගයේ ස්ථිරසාර වෙන්න පුලුවන්. මේකට තමයි චතුරාර්ය සත්‍යය නොදන්නා ජනතාව ගොඩාක් ආසා

කරන්නෙ. භවයට අයිති හැමදෙයක්ම අනිත්‍යයි. ඉතින් දිව්‍යලෝක වල උපතත් අනිත්‍යමයි. නමුත් අඥාණ ජනතාව ආයෙ ආයෙමත් උපදින්න කිසිම බයක් නැනෙ. අඥාණ තැනැත්තා යළි යළිත් යළි යළිත් සසරේ උපදින්න කිසි භයක් නෑ කියනවා. ඒ කිසි බයක් නැති නිසා ඔහේ මේ ජීවිතේ ගත කරනවා. පින්වතුනි බුදු කෙනෙකුගේ සද්ධර්මයක් හමුවෙච්චි ජීවිතේ අපි ධර්මය තුළමයි ඉන්න මහන්සි ගන්න ඕන. ඒ ධර්මය තුළ වාසය කිරීම අපිට හැමකල්හි ප්‍රඥාව උපදවනවා. ඒ උපදවන ප්‍රඥාව තියුණු ආකාරයෙන් උපන්නොත් අපිට මේ ජීවිතේම ධර්මාවබෝධ කරන්න පුලුවන්. අපි හිතමු කෙනෙකුට එහෙම තියුණු ආකාරයෙන් මේ ජීවිතය තුළ ප්‍රඥාව උපන්නෙ නෑ කියලා. ධර්මයේ හැසිරුනොත් ඒ කෙනාට රැකවරණයක් තියෙනවා, යළිත් ධර්මයේ හැසිරෙන්න පුලුවන් අවකාශයක් එයාට ලැබෙනවා. ධර්මයට ආසා කිරීමේ විපාක. ධර්මයේ හැසිරීමේ විපාක ධර්මය අහිමි වෙන් නෑ. අන්න ඒ නිසා. සතර අපායකින් යුක්ත මේ ලෝකයේ දෙව් මිනිස් ලෝක වල ඉපදීමත් දුකසේමයි ලැබිය යුත්තෙ. සතර අපායකින් යුක්ත ලෝකයක්. මේ සාංසාරික ගමනේ සතර අපාය මහගෙදර කරගන්නවා, මහගෙදර කියලා කිව්වෙ වැඩිපුරම ඉන්න තැන. සංසාර ගමනේ යන සත්වයා සතර අපාය මූලික කරගෙන යන්නෙ, ඉතාම කලාතුරකින් දෙවියන් අතරෙ මිනිසුන් අතරේ කියන සුගතියේ උපදින්නෙ. හැමතිස්සේම මේ සතර අපායේ ඉපදි ඉපදි යන ගමනේ කලාතුරකින් සුගතියකට ඇවිල්ලා බුදු කෙනෙකුගේ සද්ධර්මයක් අහන්න ලැබෙනවා කියන දුර්ලභකම සුමේධාව රජගෙදරදීම දැනගෙන හිටියා. ඇය කියනවා, අපායේ නිරයේ ඉපදුනු කෙනෙකුට එහෙදි මේ වගේ උතුම් පැවිද්දක් නෑ, තමන්ගේ පැවිද්දට තියෙන ආසාව කියන්නෙ. සතර අපායේ උපන්නොත් එහෙම මෙහෙම උතුම් පැවිද්දක් නෑ, ඉතින් ඔයාලා දෙන්නාම මට අවසර දෙන්න. දසබල ඇති බුදුසම්දුන්ගේ සසුනේ මහණ වෙන්න. මේ ඉපදෙන මැරෙන සංසාරය නැති කරන්න මං ගොඩාක් මහන්සි ගන්නම්. මේ ශරීරය කියන්නෙ අසාර දෙයක්. මේ භවය පිළිගැනීමෙන් සිද්ධ වෙන යහපත මොකක්ද. භව තෘෂ්ණාව නිරුද්ධ කිරීමටමයි මං මහණ වෙන්නෙ, ඉතින් ඒකට මට අවසර දෙන්න. ඉතින් ඔහොමයි සුමේධා අම්මගෙන් තාත්තාගෙන් පැවිද්දට අවසර පැතුවේ. අනේ මට පැවිදි වෙන්න අවසර දෙන්න. මේ සුමේධා කියලා කියන්නෙ පින්වතුනි හරී ලස්සන රාජ කුමාරිකාවක්, දිග කෙස් කළඹක් තිබ්බ, ඒ කාලෙ රජකම් කරපු පාර්වතී කියන රාජ්‍යයේ රජකම් කරපු අනීකදත්ත කියලා රජෙකුට තමයි ඇයව යෝජනා කරලා තිබුනේ. ඒ රජත් හරි

කඩවසම් රජෙක්. ඉතින් සුමේධාවගේ රූප සෝභාවට ඔහු කැමැති වුනා. එහෙම සුමේධාව තමයි මේ ධර්මය තුළින් බලලා ජීවිතේ ගැන කියන්නෙ මේ ශරීරය කියන්නෙ අසාර දෙයක්. බලන්න ධර්මය තුලින් හටගන්න පරිණත කම. නැත්නම් අවුරුදු දාසයක ගෑණු දරුවො කියලා කියන්නේ මේ ශරීරය සරස සරසා ඉන්නනෙ ආස හැමතිස්සෙම කණ්ණාඩියක් ළඟට වෙලා. නමුත් සුමේධා එහෙම අපරිණත නෑ, බොළඳ නෑ, ඈය පරිණතයි. ඈය ජීවිතය ගැන ගොඩාක් දේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය තුළින් දැනගෙන හිටියා. ඈ දෙමව්පියන්ට කියනවා දැන් මේ තියෙන්නේ බුද්ධොත්පාද කාලයක්. ධර්මය අවබෝධ කරගන්න බැරි අවස්ථාවන්ගෙන් මං මිදිලා ඉන්නෙ. උතුම් අවස්ථාවක් උදාවෙලා තියෙන්නෙ. ධර්මය අවබෝධ කරගන්න බැරි අවස්ථා, සංසාරික ගමනේ වැඩිම එහෙම අවස්ථා. බුදුරජාණන් වහන්සේ අක්කනසූත්‍ර දේශනාවේදී වදාළා මේ ලෝකයට ලොව්තුරා භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් පහළ වී සසර දුකින් නිදහස් වෙන සද්ධර්මය දේශනා කලත් ඒ ධර්මය අවබෝධ කරන්න තියෙන අවස්ථා අහිමි වීම් මයි වැඩි. බුදු කෙනෙක් දහම් දෙසද්දී ධර්මය අහන්න ඕන සත්වයා නිරයේ ඉපදිලා නම් අවස්ථාව අහිමියි. බුදු කෙනෙක් දහම් දෙසද්දී ධර්මය අහන්න ඕන කෙනා ඉන්නෙ ප්‍රේත ලෝකෙ නම් අවස්ථාව අහිමියි. බුදු කෙනෙක් දහම් දෙසද්දි ධර්මය ඇසිය යුතු කෙනා ඉන්නෙ තිරිසන්නු අතරෙ නම් අවස්ථාව අහිමියි. බුදු කෙනෙක් දහම් දෙසනා කල්හි ධර්මය ඇසිය යුතු කෙනා අසඤ්ඤ තලයේ ඉපදිලා නම් අවස්ථාව අහිමියි. බුදු කෙනෙක් දහම් දෙසන කාලෙක ධර්මය ඇසිය යුතු කෙනා මනුස්ස ලෝකෙම ඉපදිලා ඉන්නවා මන්ද බුද්ධිකයි. ඒ කෙනාට කිසි අර්ථයක් තේරුම් ගන්න බෑ, එයාටත් අවස්ථාව අහිමියි. බුදු කෙනෙක් සද්ධර්මය දේශනා කරනකොට පින්වතුනේ එයා මේ මනුස්ස ලෝකෙ උපදිනවා, ප්‍රත්‍යන්ත ජනපදයක, බුදුබණ ඇහෙන් නෑ, බුදුරජාණන් වහන්සේ නොවඩින, ශ්‍රාවක සඟරුවන් නොවඩින පැත්තක එයා උපදිනවා, අවස්ථාව අහිමියි. බුදුරජාණන් වහන්සේ නමක් සද්ධර්මය දේශනා කරනවා ඒ ධර්මය දේශනා කරනා කාලයේ ධර්මය ඇසිය යුතු කෙනා නියත මිත්‍යා දෘෂ්ටිකයෙක් වෙලා දැඩි මතධාරියෙක් වෙලා මනුස්ස ලෝකෙ ඉපදිලා ඉන්නවා. අවස්ථාව අහිමියි. බලන්න මේක සෙල්ලමක්ද කියලා. බුදුරජාණන් වහන්සේ නමක් පහළ වුනත්, බුද්ධෝත්පාද කාලයක වුනත් අවස්ථාව අහිමි වීමමයි වැඩි. බුද්ධෝත්පාද කාලත් ලෝකයේ අතිශයින් දුර්ලභයි. බුදුරජාණන් වහන්සේ දේශනා කලා අක්කන සූත්‍රයේ අවසාන අහිමි වීම. මහණෙනි, ධර්මය අවබෝධ

කරන්න තරම් මුහුකුරා ගිය ප්‍රඥාවක් ඇති මහා ඥාණවන්තයෙක් ඉපදිලා ඉන්නවා, ඒ ඥාණවන්තයා මනුස්ස ලෝකෙ උපන්නත් දහම් දෙසන්න බුදු කෙනෙක් නැත. අවස්ථාව අහිමියි. ඒ නිසා පින්වතුනේ බුදු බණ පදයක් සවන්පතට ඇහෙනකොට ඒ බණ පදය තේරෙන මනුස්ස ජීවිතයක් ලබනවා කියලා කියන්නෙ ඒක ඇත්තෙන්ම ක්ෂණයක්. ඒක ඇත්තෙන්ම ක්ෂණ සම්පත්තියක්. දීර්ඝ සංසාර ගමනත් එක්ක බලනකොට මේක සුළු මොහොතක්. සුමේධාව ඒකෙ වටිනාකම දැනගෙන හිටියා. ඈ කියනවා මේ උතුම් අවස්ථාවක් උදාවෙලා තියෙන්නෙ. සිල්වත් බවත්, බ්‍රහ්මචාරී ජීවිතයත් දිවි තිබෙන තුරාම මං ආරක්ෂා කරගන්නම්. මට පැවිදි වෙන්න අවසර දෙන්න. ඉතින් සුමේධා ඔහොම පැවිද්දට අවසර ඉල්ලුවා. සුමේධා මව්පියන්ට මේ කාරණයත් කියාහිටියා. ඉතින් මට මහණ වෙන්න අවසර දෙන්නේ නැත්නම් අම්මෙ තාත්තෙ මං කෑම කන්නෙත් නෑ, මං මැරිලා යනවා. මට ඕන නෑ කිව්වා මේ කාම ජීවිතේ. මං කෑම බීම නොකා මං මැරිලා යනවා කිව්වා මට මහණ වෙන්න අවසර දෙන්නේ නැත්නම්. එතකොට සුමේධාගේ අම්මා වන ඒ රජබිසව දුකෙන් හඬන්න ගත්තා, සුමේධාගේ තාත්තා කොන්ච මහරජ්ජුරුවො කඳුළු පිරුණු මහුණින් යුක්තව සුමේධාට ගිහි ජීවිතේ ගැන කැමැත්ත ඇති කරන්න ගොඩාක් මහන්සි ගත්තා. ඒ රජ්ජුරුවො කියනවා දුවේ ඉතින් නැගිටින්නකො. ඔය විදියට දුක් වෙලා ඇති ඵලය මොකක්ද. අනික මං ඔයාව වාරණවතී රජතුමාට දීලනෙ තියෙන්නෙ. ඒ අනීකදත්ත රජුත් හරි ලස්සනයි, හරි කඩවසම්. ඔයාව දුන්නෙ ඒ රජතුමාටනෙ. අනීකදත්ත රජ්ජුරුවන්ගේ බිරිඳ වුනාට පස්සෙ අග්‍රමහේෂිකාව වෙන්නෙ ඔයයි. දුවේ ඔය කියන සිල්රැකීම බ්‍රහ්මචාරී බව, මහණකම, ගොඩාක් දුෂ්කර ඒවා. මේ තාත්තා කියන්නෙ. ඔයාට පුලුවන් අනීකදත්ත රජ්ජුරුවන්ගේ රාජ්‍යය තුළ ඔයාගේ අණසක පතුරුවන්න. පතිකුලයටයි, ධනයටයි අධිපති වෙන්න. එතකොට ඔක්කොම සැප ඔයාට. දුවේ ඔයා තාම තරුණයි. කාම සම්පත් අනුභව කරන්න. දරුව ඔයාගේ විවාහය සිදුවේවා. රජ්ජුරුවො එහෙම කිව්වා. එතකොට සුමේධා තමන්ගෙ ආදර දෙමව්පියන්ට යළි මෙහෙම කියනවා. අසාර වූ භවයට අයිති කිසිම දෙයක් මට එපා. මේ අසාර වූ භවයට අයිති කිසිම එකක් මට ඕන නෑ, එක්කො මං මහණ වෙනවා, නැත්නම් මං මැරෙනවා, විවාහයක් නම් සිද්ධ වෙන් නෑ, මං විවාහ වෙන්නෑ කිව්වා. ඒ විවාහ නොවීම ගැන ඈ මෙහෙමයි කියන්නෙ. මේ කුණු ශරීරය අපවිත්‍රයි. ගඳ ගහනවා. බියජනකයි, කුණුගොඩක්. නිතර අශුචි වැක්කෙරෙනවා, අශුචි පුරවාපු භාජනයක් වගෙයි.

ඉතින් මං කොහොමද මේ කුණු කයක් එක්ක එකතු වෙන්නෙ. බලන්න තමන්ගේ ශරීරය ගැන ඈ විදර්ශනා කරලා තිබුනු විදිය. මේ කුණු ශරීරය අපවිත්‍රයි. මේ කුණු ශරීරය අපවිත්‍ර ද නැද්ද කියන එක අපි වෙන කාගෙන්වත් අහන්න ඕනද. ඒක අපිට අපේ ශරීරය ගැන බලපුවාමම තේරෙනවා. මේක හරි ඉක්මණට අපවිත්‍ර වෙනවා. ඉක්මණට අපවිත්‍ර වෙන නිසා නිතර නිතර මේක හෝදන්න ඕන. නහවන්න ඕන. සුවඳ විලේපන තවරන්න ඕන. කොච්චර දෙයක් කර කර ද අපි මේක පවත්වන්නෙ. මේ ශරීරය පොඩ්ඩ ඇත්නම් ගඳ ගහනවා. ටික වෙලාවක් ශරීරය සෝදන්නෙ නැතිව තිබුනත් මේ ශරීරයෙන් දුර්ගන්ධය හමන්න පටන් ගන්නවා. මේ ශරීරය හරි බියජනකයි. මේ ශරීරයට පින්වතුනේ සමහර උපද්‍රව, ලෙඩරෝග හටගන්නවා. ඒ හටගත්තට පස්සෙ ශරීර කූඩුවේ උරුමක්කාරයා එපැයි විඳවන්න. ඔබ හිතන්න නිකං බඩේ අමාරුවක් ආවත් ඔබේ කයට බඩේ අමාරුව ආවොත් විඳවන්න ඕන කවුද. අපිම විඳවන්න එපැයි. සමහර වෙලාවට ඔළුව රිදෙනවා. ඔළුව කෙලින් තියාගෙන ඉන්න බෑ, කොච්චර අමාරුයි ද. හෙම්බිරිස්සාව වගේ හැදුනාම මේ නාසය අගුල් වැටෙනවා. ඉතින් හරී අමාරුවෙන් අපි ඉන්නැද්ද. මේ පුංචි දේකදිත් මෙහෙම විඳවනවා නම් භයානක ලෙඩරෝග හැදුනාම මේ සිරුර භයජනක නැද්ද. කොච්චර බයජනකයිද. ඇතැම් වෙලාවට පින්වතුනි ශරීර අභ්‍යන්තරයේ මේ පිළිකා වගේ දරුණු රෝග හටගන්නවා. උහුලගන්න බැරි දරුණු වේදනා එනවා. එතකොටයි තේරෙන්නෙ මේ කුණු ශරීරය කොච්චර බයජනක ද කියලා. නිතරම අශුචි වැක්කෙරෙනවා. මේ ශරීරයෙන් එළියට යමක් වැක්කෙරෙනවා නම් ඒ සියල්ල අශුචියක්. සුවඳවත් වූ පිරිසිදු කිසිවක් මේ ශරීරයෙන් පිටවෙන්නෙ නෑ, ඇස්වලින් ගලන්නෙත් කබ ආදී අශුචි. කන්වලින් එළියට පැමිණෙන්නෙත් කන්කාරළු වගේ අශුචි. කටකින් එළියට පැමිණෙන්නෙත් අශුචි. නාසයෙන් එළියට පැමිණෙන්නෙත් අශුචි. මේ සිරුරේ රෝම කූපයක් කූපයක් ගානෙ එළියට එන්නෙ අශුචි. හැමතැනකින්ම. කොච්චර සත්‍යයක්ද ඈ කියන්නෙ. හරියට මේක අශුචි පුරවාපු භාජනයක් වගේ. මෙහෙම කයක් මාත් තියාගෙන තවත් මේ ජාතියෙ එකක් එක්ක මං කොහොමද එකතු වෙන්නෙ. මස් ලේ තැවරුනු මේ ශරීරය මට අතිශයින්ම පිළිකුල්. මං මේ ශරීරය අවබෝධ කරගෙනයි ඉන්නෙ. අන්න ඒක තමයි මෙතන වැදගත්. මේ ශරීරය ගැන ඇයට තිබුනෙ දැනුමක් නෙවෙයි. දැන් අපි මේ දහම් පදය කියනකොට ගොඩාක් දෙනෙක් කලබල වෙනවා අයියෝ බුදුරජාණන් වහන්සේගේ ධර්මය තුළ තියෙන්නේ ඍණාත්මක දේවල්නෙ. මේවා කල්පනා කලොත් එහෙම තරුණ

ජීවිත වැනසෙනවානෙ කියලා. ඒ අවබෝධයක් නැති නිසා. අහන්න ලැබිච්චි නිසා ඒක හින්දා තමයි ඇවිස්සිලා යන්නෙ. අප්පේ මේවාද තියෙන්නෙ කියලා. අවබෝධය කියන්නෙ පින්වතුනි අහලා මතක තියාගන්න එකට එහා ගියපු දෙයක්. අවබෝධය කියන එක රුචිකත්වය මත තියෙන එකක් නෙවෙයි. සද්ධා, රුචි, අනුස්සව, ආකාරපරිවිතක්ක, දිට්ඨිනිජ්ඣානක්ඛන්ති කියන මේ පහම ඉක්මවා ගියපු තැන අවබෝධය. අවබෝධය කියන එක මේ බණ පදයක් අදහාගැනීමෙන් නවතින් නෑ. එයට ආසා කිරීමේන රුචිකත්වයෙන් නවතින්නෑ. එය මේක මෙහෙමනෙ මෙහෙමනේ කියලා කල්පනා කිරීම් මාත්‍රයෙන් නවතින් නෑ. ඒ සම්බන්ධයෙන් දෘෂ්ටියකට බැස ගැනීමෙන්, ජීවිතේ කියන්නෙ මෙහෙම එකක් තමයි කියලා ඒ සම්බන්ධයෙන් දෘෂ්ටියකට බැස ගැනීමෙකුනුත් අවබෝධය කියන එක කෙළවර වෙන් නෑ. අවබෝධය කියලා කියන්නෙ තමා තුළ පිහිටි එකක්. ඒක ඥාණයක්. ඒක තමන්ගේ අභ්‍යන්තරයේ ප්‍රඥාවක් විදියට පිහිටනවා. ප්‍රඥාවක් විදියට පිහිටියාට පස්සෙ ඒ ප්‍රඥාවට කියනවා ඉන්ද්‍රිය කියලා. ඉන්ද්‍රිය කියන එක ගැන තේරුම් ගත යුත්තේ මෙහෙමයි. ඇහැ කියලා ඉන්ද්‍රියක් අපිට පිහිටලා තියෙනවා. මේ ඇහැ කියන ඉන්ද්‍රිය පිහිටියාට පස්සෙ අපි ඇහැට කියන්න ඕන නෑ රූපබලපං කියලා. ඇහැ රූප බලනවා. කණ කියලා ඉන්ද්‍රියක් අපිට පිහිටලා තියෙනවා, අපි කණට වෙනම මතක් කරන්න ඕන නෑ දැන් හඬවල් අහපං කියලා. කණ සද්ද අහගන්නවා අන්න ඒ වගේමයි, ප්‍රඥාව තියෙනවා නම්, ප්‍රඥා ඉන්ද්‍රිය පිහිටියා නම් ප්‍රඥාවෙන් තමයි ජීවිතය දිහා බලන්නෙ. ඒ නිසා මේක අපි හොඳට තේරුම් ගන්න ඕන. මේ වෙනකොට සුමේධාවට තිබුනේ අවබෝධයක්. සුමේධා කියන්නෙ ශරීරය ගැන මෙහෙම කල්පනා කලා කියලා නාන්නෙ නැතිව හිටපු කෙනෙක් නෙවෙයි. ශරීරය පිරිසිදු කරන්නේ නැතිව හිටපු කෙනෙක් නෙවෙයි. ශරීරය ගැන ඇයට තිබුනේ අවබෝධයක්. ඇය මේ අවබෝධය ගැන මෙහෙම කියන්න හේතු වුනේ ඇයට විවාහයක් යෝජනා වීම. ඇය විවාහ වෙන්න කැමැති නෑ. මොකද ඈ තුළ දැන් අවබෝධයක් තියෙනවා මේ ශරීරය ගැන, මේ විවාහයට වඩා ඇය අතිශයින්ම ආසයි සුන්දර පැවිද්දට. මං මේ ශරීරය අවබෝධ කරගෙන ඉන්නෙ. පණුවන්ට වාසභූමියක්, ගිජුලිහිණියන්ට ආහාරයක්. ඉතින් මේ ශරීරය කාට නම් පාවා දෙන්නද. ටික කාලෙකින් විඤ්ඤාණය පහවෙලා ගියාට පස්සෙ නෑදෑයො මේ කය පිළිකුල් කරනවා. අපි මලාට පස්සෙ මැරිච්චි අපේ ශරීරය ඥාතීන් පිළිකුල් කරනවා. ඊටපස්සෙ ඥාතීන්ට ඕන දවසක් දෙකක් තුනක් ඇතුලත ඉක්මණට මේක පුච්චලා දාන්න. එහෙම නැත්නම් මේක පස්යට වළලලා දාන්න.

තියාගන්නෑ ගෙදර. මැරුණාට පස්සෙ ගෙදර තියාගන්නෑ. ඉක්මණින් ඥාතියො ටික ඒ මෘත ශරීරයේ කළ යුතු අවසන් කටයුතු සිද්ධ කරනවා. දර කැල්ලක් විසි කරනවා වගේ සොහොනට ගිහිල්ලා දානවා. දැන් දඹදිව තිබුනේ ඒ ක්‍රමයනෙ. සොහොනට ගිහිල්ලා දානවා. ඊටපස්සෙ බලු සිවලුන්ට මේ ශරීරය ගොදුරු වෙලා යනවා. සොහොනට ගිහින් ශරීරය දාලා ඇවිත් දෙමව්පියන් කරන්නෙ ඒක පිළිකුල් කරලා වතුර නාන එක. හැමදෙනාටම පොදු මේ තත්වය ගැන කතා කරන්න දෙයක් නෑ. මේ රජවරු කියලා කතා නෑ කියනවා සුමේධා. රජවරුන්ගේ රජදුවක් මැරුණත් ඒ රජවරු කරන්නෙ ඇය වෙනුවෙන් අඬලා දොඩලා ඇගේ අවසන් කටයුතු සිද්ධ කරලා ඇවිල්ලා වතුර නානවා. පිරිසිදු වෙනවා. අපේ දුවනේ කියලා රාජමන්දිරයේ මෘත ශරීරය තියාගන්නෑ. ඒක තමයි කියනවා හැමෝටම පොදු ධර්මතාවය. ඇට නහරින් බැඳිලා තියෙන්නෙ. කෙළ, කඳුළු, මල, මුත්‍රා පිරිලා තියෙන්නෙ. ඒ වුනාට මෝඩ ජනතාව මේ ශරීරයට හරී ආසයි. මේ ගැන නුවණක් නැති, මේ ගැන ප්‍රඥාවක් නැති මනුස්සයා මේ ශරීරයට ආසා කරනවා. මේ ශරීරය වෙන් කරලා ඇතුලේ තියෙන දේවල් ඉවසන්න බැරිව පිළිකුල් කරනවා. මේ මෘත ශරීරය කැපුවාට පස්සෙ, මේ ශරීරය කොටස් කලාට පස්සේ පින්වතුනේ ඒ කොටස් කරපු ශරීර අභ්‍යන්තර කොටස් දකිද්දි පිළිකුලක්මයි හටගන්නෙ. ප්‍රියභාවයක් උපදින්නේ නෑ. හැබැයි මේවාම තමයි අපි මේ තියාගෙන ඉන්නෙ. ශරීරයක් කපලා තියෙනවා දැක්කොත්, මේ ශරීරය මියපරලොව ගියාට පස්සෙ ඇතැම් ශරීර මරණ පරීක්ෂණාදියේදී කොටස් කරනවානෙ. ඒ කොටස් කරන එකක් කෙනෙකුට දකින්න ලැබුනොත් පිළිකුලක්මයි හටගන්නෙ. ඊළඟට බලන්න මේ ශරීරයෙන්ම යමක් එළියට එනවා නම් ඒ එළියට එන හැමදේම අපි පිළිකුල් කරනවානෙ. අපේ ශරීරයෙන් එළියට එනදේමනෙ. අපි පිළිකුල් කරනවා. පිළිකුල් කරන දේවල් එහෙම පිළිකුල් කර කර තියාගෙනත් මෝඩ ජනතාව මේ ශරීරයටම කියනවා ආසා කරන්නෙ. ස්කන්ධ, ධාතු, ආයතන කියන මේවා හේතූන් නිසා හටගන්න බවත්, ඉපදීමෙන් ඇතිවුනු දුකක් බවත් මම අවබෝධ කරගෙන ඉන්නේ. සුමේධා කියනවා මේ සියල්ල හේතූන්ගෙන් හටගත්ත දේවල්, ඒ හේතු නැතිවිමෙන් නැතිවී  යන බවත්, මේ ඉපදීම කියන්නෙ දුකක් කියලත් ඇයට අවබෝධයක් තියෙනවා. ඒ විදියට නුවණින් විමසන මං කොහොමද විවාහයකට කැමැති වෙන්නෙ. ඇය දෙමව්පියන්ට කියනවා මෙහෙම ජීවිතේ ගැන නුවණින් දකිද්දි අම්මේ තාත්තේ මං කොහොම නම් විවාහයකට කැමැති වෙන්නද. මං ජීවිතේ ගැන මෙහෙම නුවණින් දකින්නෙ.

මේ ජීවිතේ කියලා කියන්නේ ස්කන්ධ. රූප, වේදනා, සංඥා, සංස්කාර, විඤ්ඤාණ කියන පංචුපාදානස්කන්ධයක් මේ ජීවිතේ කියලා ඈ විදර්ශනා කරනවා. මේ ජීවිතේ කියලා කියන්නෙ ධාතු හයක පැවැත්මක් කියලා ඇය විදර්ශනා කරනවා. මේ ජීවිතේ සම්බන්ධයෙන් විදර්ශනා කරන්න තියෙන එක ක්‍රමයක් මේ ධාතු හයක පැවැත්ම. පඨවි ධාතු, ආපෝ ධාතු, තේජෝ ධාතු, වායෝ ධාතු, ආකාස ධාතු, විඤ්ඤාණ ධාතු මේවාගේ පැවැත්මක් තමයි ජීවිතේ. ජීවිතේ ගැන එක ක්‍රමයකට එහෙමත් බැලුවහැකි. ඊළඟට ජීවිතේ සම්බන්ධයෙන් තව ක්‍රමයකට බලන්න පුලුවන් ආයතන හයක්, ඇස, කණ, නාසය, දිව, කය, මනස මේ සත්වයාගේ උපත කියලා යම් තැනක කියනවා නම් උපත ගැන කියන්න තියෙන්නෙ එක්කො ස්කන්ධයන්ගේ පහළ වීම, ආයතනයන්ගේ පහළ වීම, මේ ධාතූන්ගේ සකස්වීම, ඔහොමනේ කියන්න තියෙන්නෙ. ඉතින් එහෙම හටගත්ත ඒ ඉපදීමෙන් ඇතිවෙච්චි දුකක් කියලා ඇය අවබෝධ කරගෙන ඉන්නෙ. ඉපදීමෙන් ඇතිවෙච්චි දුක මොකක්ද පින්වතුනේ. ඉපදීම යම්තැනක තියෙනවා නම් ඉපදීමත් එක්ක තිබුනු යම් දුක් ටිකක් තියෙනවා. ඒ දුක් ටික තියෙන්නෙ ඉපදීමත් එක්ක. ඒක බුදුරජාණන් වහන්සේ හරි ලස්සනට විස්තර කලා. ඉපදීමත් එක්ක බැඳුනු දුකක් වයසට යෑම. ඉපදුනානම් වයසට යනවා. ඉපදීමත් එක්ක බැඳුනු දුකක් ලෙඩවීම, ඉපදුනා නම් ලෙඩවෙනවා. නානප්‍රකාර ලෙඩ, නම් දන්නේ නැති ලෙඩ, ශරීරයේ එක එක තැන්වලට හැදෙන ලෙඩ, උහුලන්න අමාරු ලෙඩ, මේ හැම එකක්ම ඉපදුනා නම් හටගන්නවා. ඉපදුනේ නැත්නම් ලෙඩ නැත. ඉපදුනා නම් තියෙන ප්‍රශ්නයක් මරණය. උපන්න කෙනා මරණයට පත්වෙනවා. ඉපදුනාම තියෙන ප්‍රශ්නයක් ප්‍රියයන්ගෙන් වෙන්වීම. ඉපදුනු කෙනාට පින්වතුනි ප්‍රිය දේවල් හටගන්නවා. ප්‍රිය දේවල් හටගත්තාට පස්සෙ ප්‍රශ්නයක් හටගන්නවා, ප්‍රියයන්ගෙන් වෙන්වීම. අප්‍රිය දේ සමඟ එක්වීම. උපන්නාට පස්සෙ තියෙන ප්‍රශ්නයක්. ශෝක, වැළපීම්, දුක්, දොම්නස්, සුසුම් හෙලීම් මේ ඔක්කොම උපතත් එක්ක. මේ ඉපදීම කියන්නෙ දුකක් කියලා ඉපදීමෙන් හටගත්ත මහා දුක්ගොන්නක් තියෙනවා කියලා සුමේධාව අවබෝධ කරගත්තා. ඉතින් එහෙව් මම කොහොමද විවාහයකට කැමැති වෙන්නෙ. බලන්න ඇය කියනවා තව ධර්මයක්. දවස ගානෙ යකඩ පොලු පාරවල් තුන්සීයක් කාලා, අවුරුදු සීයක් තිස්සේ ඒ විදියට පොලු පාරවල් කාලා ඉවර වුනාම මේ සංසාර දුක ගෙවිලා යනවා නම් මට ඒකත් උතුම්. සසර දුකින් නිදහස් වීම ගැන ඈ හිතපු විදිය. දවස ගානෙ යකඩ පොලු පාරවල් තුන්සීයක් කාලා, දවසකට කෙනෙකුට යකඩ පොලු

පාරවල් තුන්සීයකින් ගහනවා. එහෙම ගුටි කකා අවුරුදු සීයක් තිස්සේ ඒ විදියට පොලු පාරවල් කාලා ඉවර වුනාම ඒ කෙනාගේ දුක අවසන් වෙලා යනවා නම්, එතකොට අවුරුද්ද ඇතුලේ එයා දවසකට පොලු පාරවල් තුන්සීය ගානෙ තුන්සිය හැටපස් දවසක් ගුටිකන්න එපැයි. ඒ වගේ සියගුණයක් ගුටිකනවා, යකඩ පොලු වලින්. හැබැයි එසේ ගුටි කාලා අවසන් වෙනකොට සංසාර දුකින් නිදහස් වෙනවා නම් මට ඒකත් උතුම් කියනවා. එහෙනම් සුමේධාට හොඳ තේරුමක් තිබිලා තියෙනවා සසරේ කන ගුටි ගැන. බුදුරජාණන් වහන්සේ හරී ලස්සනට සච්චසංයුත්තයේදී ඔය ධර්මය දේශනා කලේ. බුදුරජාණන් වහන්සේ සත්ත සති කියන සූත්‍රයේදී වදාළා පින්වතුනේ එක දරුණු හොරෙක් අහුවුනාට පස්සෙ ඒ රාජහොරාට දණ්ඩනය ලැබුනා දවසකට උල් පහර තුන්සීයකින් ඇනුම් කන්න. උල් පහර තුන්සීයකින් මේ හොරාට එක දවසකදි අනිනවා. බුදුරජාණන් වහන්සේ භික්ෂූන්ගෙන් අහනවා මහණෙනි, උල් පහර තුන්සීයකින් ඇනුම් පහර කන හොරාවිදින්නේ කොයි වගේ දුකක්ද? ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, එක උල් පහරකින් ලැබෙන වේදනාවත් හරි කර්කශයි, කටුකයි, දුක් සහිතයි. උල්පහර තුන්සීයක් ගැන කවර කතාද. බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, දවසකට උල් පහර තුන්සීයකින් ශරීරය පසාරු කරගෙන යන්න පහර කාලා ඒ විදියේ පහර කෑම් සහිතව අවුරුදු සීයක් ගියපු තැන සංසාර දුකින් නිදහස් වෙනවා කියලා කිව්වොත් ඒකත් උතුම් කියලයි සලකන්න තියෙන්නෙ. හේතුව මහණෙනි අවුරුදු සීයක් තිස්සේ උල් පහර තුන්සීයකින් පහර කෑම් කකා යම් දුකක් විඳවනවා නම් ඒ දුක පුංචිම පුංචි ගල් කැටයක් වගේ, සාංසාරික ගමනේ යන්න සිද්ධ වුනොත් විඳින්න තියෙන දුක හිමාල පර්වත රාජයා වගේ. ඒකනෙ පින්වතුනි මේ සසරේ තියෙන භයානක කම. සාංසාරික ගමනක දිගින් දිගට දිගින් දිගට යන්න සිද්ධවුනොත් ඒකෙ කොච්චර කටුක කර්කශ විපාක තියෙනවාද. ඉතින් සුමේධාව කියනවා ශාස්තෘන් වහන්සේ ඔන්න ඔය විදියටයි පෙන්වලා දීලා තියෙන්නෙ. අම්මේ තාත්තෙ ඒ උතුම් වචන දැන දැනත් මේ ජරා මරණ වදය පිළිගත්තොත් ආයෙ ආයෙමත් ඉපදෙන්න සිදුවෙනකොට සංසාරේ දික්වෙන්නේ ඒ ගොල්ලන්ටමයි. මහා කරුණාවෙන් බුදුරජාණන් වහන්සේ මෙච්චර කියලා තියෙද්දිත් සංසාරේ දික් කරගන්න හිතනවා නම් ජරා මරණ වධයම පිළිගන්නවා නම් කාමයම පතනවා නම් සංසාර ගමනේ ගුටි කකා විඳවන්න වෙන්නෙ ඒ ඇයන්ටම තමයි. දිව්‍ය ලෝකෙ, මිනිස් ලෝකෙ, තිරිසන් යෝනිය, අසුර නිකාය, ප්‍රේත ලෝකය, නිරය කියන මේ කොහෙත් නිමක් නැති පීඩා තියෙන්නෙ. කොතන උපන්නත්

සැනසිල්ලක් නෑ. කොයි තැනක උපන්නත් උපතත් එක්ක බැඳිච්චි දුක් ගොන්න තියෙනවා නම් කෝ සැනසිල්ලක්. ඉපදීමත් එක්ක නම් වයසට යෑම, ලෙඩ වීම, මරණය, ප්‍රිය විප්පයෝගය, අප්‍රිය සම්පයෝගය, ශෝක, වැළපීම්, දුක් දොම්නස් ඔක්කොම ටික තියෙන්නේ ඉපදීමත් එක්ක නම් ඕන තැනක උපන්නොත් ඔය ටික අපිට තියෙනවා. ඉතින් කෝ සැනසිල්ලක්. නිරය තිරිසන් ලෝකය වගේ අපායක වැටුනොත් ගොඩාක් විඳින්න සිද්ධ වෙනවා. දෙවියන් අතර උපන්නත් ලොකු ආරක්ෂාවක් නෑ. ඒ නිසා මේ ලෝකෙ නිවනට වඩා උතුම් වෙන සැපක් නම් නෑ. සුමේධා දෙමව්පියන්ට ඔහොම කිව්වා. නිවනට වඩා උතුම් වෙන සැපක් නම් නෑ, අවසානෙ ඈ මෙහෙම කියනවා. අම්මේ තාත්තෙ දසබල බුදුසමිඳුන්ගේ වචනය අනුව ගමන් කලොත් ඉපදෙන මැරෙන සංසාරෙ නැති කරන්න උත්සාහ කලොත් ඔවුන් නිවනටම පත්වෙනවා. බුදුරජාණන් වහන්සේගේ වචනයට අනුවම කෙනෙක් කටයුතු කලොත් මේ උපදින මැරෙන සංසාරෙන් නිදහස් වෙන්න, බුදුරජාණන් වහන්සේ දේශනා කරපු විදියටම මහන්සි ගත්තොත් අන්න ඒ අය අවසානයේ නිවනට පත්වෙනවා. බුදුරජාණන් වහන්සේ තමයි පින්වතුනි මේ ලෝකයට නිවනට පත්වෙන හැටි කියලා දුන්නෙ. නිවන දන්දීපු ශාස්තෲන් වහන්සේ, අපි සරණ ගියපු බුදුරජාණන් වහන්සේ. බුදුරජාණන් වහන්සේ ඒ නිවන දන් දෙනකොට නුවණ තිබුනු අය, පින් තිබුනු අය ඒ නිවන ලබාගෙන සැනසුනා. ඉතින් සුමේධා අර්හත් උත්තමාවිය කියන්නෙත් එහෙම සැනසිච්චි උත්තමාවියක්. අපි අද ඒ උත්තමාවියගෙ ථෙරීගාථා වල එක කොටසක් ඉගෙන ගත්තෙ. අපිට මේ දීර්ඝ ථෙරීගාථා වල ඉතුරු කොටස ඉගෙන ගන්න වෙන්නෙ පින්වතුනි ඊළඟ වැඩසටහනින්. නමුත් අද දවසේ අපි ඉගෙන ගත්තු කරුණු වලිනුත් අපිට ජීවිතේ ගැන බොහෝ දේ දැනගන්න ලැබුනා. මේ ගාථා වදාළේ සුමේධා නම් වූ අර්හත් උත්තමාවිය, ඒ උත්තමාවියට නමස්කාර කරමින් වන්දනා කරමින් අපිත් අධිෂ්ඨාන කරමු අතිශයින්ම දුර්ලභ වූ වාසනාවන්ත වූ මොහොතක් අපිටත් උදාවෙලා තියෙනවා බුදුරජාණන් වහන්සේගේ සරණ යන්න ලැබීම, සම්බුද්ධ ශාසනේ මුණගැහිච්ච මේ දුර්ලභ මනුස්ස ජීවිතේ චතුරාර්ය සත්‍යය අවබෝධයේ වටිනාකම තේරුම් අරගෙන අපිටත් බුදු සසුනක මනාකොට පින් පුරාගෙන මනාකොට දහම් මග දියුණු කරගෙන ඒ උතුම් රහතන් වහන්සේලා සැනසුනු, රහත් තෙරණින් වහන්සේලා සැනසුනු අමා නිවනේ සැනසෙන්න වාසනාව ලැබෙන්වා. සාදු සාදු සාදු!!!

රැස් කරගන්න යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අපි පළමුකොට අනුමෝදන් කරමු සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරු, සෙන්පති දෙවිවරු ප්‍රධාන සියලු දෙවියෝ සතුටින් පින් අනුමෝදන් වෙත්වා, පින් අනුමෝදන් වන දෙවිවරු දිව්‍ය සැපයෙන් දිව්‍ය ආශ්චර්‍යයෙන් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ රැකවරණ අප හැමදෙනාට දෙවියෝ සළසත්වා. දෙවියෝද සංසාර දුකින් අතමිදෙත්වා. සාදු සාදු සාදු!!! ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට සියලු පින් අනුමෝදන්ව නිදුක් නිරෝග සුව සැලසේවා. දීර්ඝායුෂ සැලසේවා. ගුරු දේවයන් වහන්සේට ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා, සාදු සාදු සාදු!!! රැස් කරගන්න යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද ධර්ම දානය සිදු කරන ඒ පින්වතුන්ලා ප්‍රධාන අරමුණ වශයෙන්ම සඳහන් කොට ඇති පරිදි මේ උතුම් තෙරුවන් සරණ මුණගැහිච්චි ජීවිතේ අපි හැමදෙනාටම බුදුරජාණන් වහන්සේගේ සරණ, ධර්මයේ සරණ, ආර්ය මහා සංඝරත්නයේ සරණ ලබාගෙන මේ ගෞතම ශාසනය තුළ උතුම් තෙරුවන් සරණින්, උතුම් තෙරුවනේ පිහිටෙන්, ආශිර්වාදයෙන් සියලු රැකවරණය ලබාගන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! අද දවසේ මේ ධර්ම දානය සිදු කලේ මීට වසර 13කට පෙර ජූලි 27 වන දිනයකදී මියපරලොව ගිය, පින්වත් ඩී.එන්. ලීලාවතී මැණිකේ අත්තම්මාගේ ගුණානුස්මරණය නිමිති කරගෙන. ඉතින් ඒ මියගිය පින්වත් ඩී.එන්. ලීලාවතී මැණිකේ අත්තම්මාට මේ සියලුම පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම නමින් මියගියා වූ එච්.එම්. කිරිමුදියන්සේ කන්දෙපොල කිරිඅත්තාටත්, ටී.එම්. රන්මැණිකා අත්තම්මාටත්, එම්.ඒ.ඩී. උක්කුබණ්ඩා කිරිඅත්තාට, ප්‍රේමා කුලතුංග අත්තම්මාට, ආර්.ආර්.ජී. කුලතුංග සීයාට, ඩී.එස්. විතානගේ සීයාට, ලිලියන් ප්‍රනාන්දු අත්තම්මාට සහ ඒබ්‍රහම් සීයාට මේ සියලූම පින්පෙත් අනුමෝදන් වෙත්වා, දායකත්වය දැරූ සෑම සියලු දෙනාගේ නමින් අනන්ත සසර පුරාවටම මියපරලොව ගිය සියලු ඥාතීන්ට පින් අනුමෝදන්ව ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා. අපගේ ඥාතීන්ද මේ දුක් සහිත සංසාර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙන්න ලැබෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනාව සිදුකරන්න. සුජීවත්ව සිටින පින්වත් රූපවතී අත්තම්මාටත්, ජයන්ත සීයාටත්, ප්‍රේමා විතානගේ අත්තම්මා ඇතුලු පවුලේ හැමදෙනාට නිදුක් නිරෝග සුව දීර්ඝායුෂ සැලසෙත්වා. ඒ වගේම පින්වත් පින්නපොල ගුරුපියාණන්ට මේ සියලූම පුණ්‍ය ධර්මයන් අනුමෝදන් වෙලා නිදුක් නිරෝග සුවය, දීර්ඝායුෂ සම්පත්තියම සැලසෙත්වා. ඒ

වගේම අද ධර්මදානය සිදුකරන ඒ පින්වත් උදුල බණ්ඩාර මහත්මයා ඇතුළු ඒ පින්වතුන්ලා බලාපොරොත්තු වෙනවා පින්වත් අස්සජි ස්වාමීන් වහන්සේ ඇතුළු මහමෙව්නාව භාවනා අසපු වාසී පින්වත් ස්වාමීන් වහන්සේලා සියලු දෙනාට පින් පෙත් අනුමෝදනා කරන්න. ඉතින් එම ස්වාමීන් වහන්සේලාටත්, අනගාරිකා මෑණියන් වහන්සේලාටත් පැවිදි අපේක්ෂාවෙන් සිටින පින්වත් හැමදෙනාටමත් මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. අනුමෝදන්ව නිදුක් නිරෝග සුව දීර්ඝායුෂ සැලසෙත්වා. ගෞතම ශාසනය තුළ චතුරාර්ය සත්‍යය ධර්මය සුවසේම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! ධර්ම දානය සිදු කරන පින්වත් උදුල බණ්ඩාර මහත්මා, සුධර්මා කුමාරිහාමි මහත්මිය, විපුල් කුලතුංග මහත්මා, වසන්තා කුලතුංග මහත්මිය, දයානන්ද මහතා සහ කල්‍යාණි ඒකනායක මහත්මිය ඇතුළු ඒ පවුලේ සෑම සියලු දෙනාට සියලු පින් අනුමෝදන්ව ධර්මදානය සිදුකරන පින්වතුන්ලා කරන කියන රැකී රක්ෂා ආදිය දූදුරු මුණුබුරු මිණිබිරියන්ගේ අධ්‍යාපන කටයුතු ආදිය මේ ආදී වූ සියල්ල සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා. ජීවිත වලට සියලු යහපත සැලසෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාටත්, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ සියලු දෙනාටත්, සුපින්වත් ඔබ සෑම සියලු දෙනාටත් තෙරුවන් සරණින්, සියලු දෙවියන්ගේ රැකවරණින් සියලු දෙවියන්ගේ දහම් මග දියුණු කරගෙන මේ ගෞතම ශාසනය තුළ සුවසේම චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=DyNsR4r1sKU

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු අද දවසේ මේ උතුම් සද්ධර්ම දේශනාවට අනුග්‍රහය දරනු ලබන්නේ ඔස්ට්‍රේලියාවේ පදිංචි පින්වත් සුමුදු කොඩිකාර මහත්මා සහ නදීශානි අබේසේකර මහත්මිය යන ඒ පින්වතුන්ලා දෙපල විසින්. අද ධර්ම දානය සිද්ධ කරන්නෙ සිඟිති දූවකට සෙත් ප්‍රාර්ථනා කරමින් 2021 ජූනි මාසෙ 11 වන දින මෙලොව එළිය දුටු පින්වත් සහන්‍යා කොඩිකාර සිඟිති දූවට මේ ධර්ම දානමය පිනේ අනුහසින් කායික සුව සැලසේවා, මානසික සුව සැලසේවා, නිදුක් නිරෝගී සුවපත් භාවය දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. ඒ සිඟිති දූවගේ ජීවිතයට යහපත උදාකරවන කල්‍යාණමිත්‍ර සත්පුරුෂයෝම ඇසුරට ලැබේවා. බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක දූවක් ලෙස සම්බුද්ධ ශාසනයේ පිළිසරණ ලබන්න වාසනාව ලැබේවා කියන අදහසින් සෙත් ප්‍රාර්ථනා කරමින් ආදරණීය දෙමව්පියන් විසින් ධර්ම දානමය පින්කම සිද්ධ කරන්නෙ. ඉතින් අපිත් ඒ සිඟිති දූවට සෙත් ප්‍රාර්ථනා කරන අදහසින්ම මේ උතුම් ධර්මය ශ්‍රවණය කරමු, අද පින්වතුනේ අපි අහන්නේ සුමේධා නම් වූ අර්හත් උත්තමාවියගේ ථෙරීගාථා. අපි ඒ උත්තමාවියගේ ථෙරීගාථා වලින් කොටසක් මීට පෙර දවසේ වැඩසටහනේදී ඉගෙන ගත්තා. මොකද මේ ථෙරීගාථා වල මහා නිපාතයේ ගාථා ප්‍රමාණයෙන් දීර්ඝ වශයෙන් තියෙන ථෙරීගාථාව තමයි අපි ඉගෙන ගන්නෙ සුමේධා අර්හත් උත්තමාවියගේ ඒ උතුම් චරිතාපදානය. ඇත්තටම මේ චරිතාපදානය ඒ උත්තමාවියමයි ප්‍රකාශ කළේ. සුමේධා කියන්නෙ මන්තාවතී නගරයේ කුන්ච කියන රජ්ජුරුවන්ගේ දූව. ඇය රජ දූවක්. මේ රජ දූව, බුද්ධ ශාසනය කෙරෙහි අතිශයින්ම පැහැදිලා සිල්වත්ව බහුශ්‍රැතව ධ්‍යාන සුව ලබ ලබ ගිහි ජීවිතේ ගත කරපු කෙනෙක්. සුමේධාට මේ සිද්ධිය වෙනකොට වයස අවුරුදු 16 යි. තරුණි. සුමේධාගේ දෙමව්පියෝ තීරණය කලා සුමේධාව වාරණවතියේ රජකම් කරපු අනීකදත්ත කියන කඩවසම් තරුණ රජ්ජුරුවන්ට විවාහ කරලා දෙන්න. එතකොට මේ රජවරු රජවරු අතරේ මේ විවාහයේ කතා කරගෙන අවසන්. සුමේධාට දැනුම් දුන්නේ ඊටපස්සෙ. ඒත් බුදුරජාණන් වහන්සේගේ ධර්මය තුළින් ජීවිතය ගැන බලවත් දැක්මක් තිබුනු, ඊළඟට පැවිද්දට අතිශයින්ම ආසා කරපු සුමේධා විවාහයට කැමැති වුන් නෑ. ඈ තමන්ගේ විවාහයට තිබුනු අකමැත්ත දෙමව්පියෝ ඉස්සරහා වන්දනා කර කර කිව්වා අම්මේ තාත්තේ මම විවාහ වෙන්නේ නම් නෑ. මං විවාහයකට කැමැති නෑ. මට දසබලධාරී

බුදුරජාණන් වහන්සේගේ සම්බුද්ධ ශාසනයේ පැවිදි වෙන්න දෙන්න. මං නිවන් අවබෝධ කරගන්නම් කියලා. ඉතින් සුමේධා එහෙම ගොඩාක් කරුණු කාරණා කිව්වා. ඒ කියපු කාරණා අපි ඊයෙ දවසේ ඉගෙන ගත්තා. ඉතින් අවසානයේ සුමේධා බොහෝ කාරණා කියලා කියලා තමන්ගේ තාත්තා කුන්ච මහරජ්ජුරුවන්ට මෙහෙම කිව්වා. තාත්තෙ මං අදම ගිහිගෙදර අත්හරිනවා. මට මේ නිසරු සම්පත් වලින් පලක් නෑ. මං මේ කාමයන් අත්හැරියේ වමනේ දානවා වගේ. තල්ගහක මුදුන් කරටියෙන් කඩලා දැම්මා වගේ මං කාමයන් අත්හැරියේ එහෙමයි. කාමය කියන එක වමනෙ දැම්මා කියනවා. ඒ වමනෙ දැම්මා කියන එකේ අදහස මොකක්ද? වමනේ දාපු දෙයක් අපි යළි ගන්නෙ නෑ. ඒ වගේ කාමය කියන එක බැහැර කලා කිව්වා මං. මට ඒ නිසා මේ සම්පත් වලින් වැඩක් නෑ, මට පැවිදි වෙන්න යන්න අවසර දෙන්න කියලා දැන් සුමේධා තමන්ගේ ආදරණීය තාත්තා, පියරජ්ජුරුවන්ට කිව්වා. එතකොට පියරජ්ජුරුවන්ට මෙහෙම කියනකොටත් පින්වතුනේ සාමාන්‍යයෙන් රාජකීය විවාහයක් කියලා කියන්නෙ විශේෂ බන්ධනයක්නෙ. රජවරු රජවරු සමගිය උදෙසාත් මේ විවාහය කියන එක යොදාගන්නවා. විවාහයක් යොදාගෙන ඒ විවාහයේ අතරමැද මොකක් හෝ කාරණාවක් නිසා නතර වුනොත් ඒක අනිත් රජකුලයට කරන අවනම්බුවක්. එතකොට මේ වෙනකොට විවාහයට කරුණු යෙදිලා වාරණවතියෙ ඉඳලා අනීකදත්ත රජතුමා පෙරහැර පිටත් වෙලා. ඒ අතරේ තමයි මේ සුමේධාවගේ කතාබහ යන්නෙ. දැන් නවත්වන්න පුලුවන් කමක් නෑ. සුමේධාගේ පියා කුන්ච මහරජ්ජුරුවො සුමේධාට කාරණය පහදලා දෙන්න උත්සාහ කලා. දුවේ දැන් මට කරන්න දෙයක් නෑ, නවත්වන්න පුලුවන්කමක් නෑ. වාරණවතියේ මහරජ්ජුරුවො අනීකදත්ත රජ්ජුරුවො මේ වෙනකොටත් පිටත් වෙලා. ඔයා දැන් හොඳ දුව වගේ විවාහයට ලැහැස්ති වෙන්න කියලා තාත්තා දැන් මෙහෙම කියනකොට සුමේධාට තේරුණා තාත්තලාට මේක තේරුම් කරලා ගැලවෙන්න පුලුවන්කමක් නෑ. ඇය දෙමව්පියන්ගෙන් වෙන්වුනා. තමන්ගේ ප්‍රාසාදය ඇතුලට ගිහිල්ලා දොර වහගත්තා. සුමේධාට කොච්චර කළකිරීමක් හටගෙන තිබුනද කියන්නෙ සුමේධා ඇගේ තද නිල්පාට මුදු කෙස් කළඹ කඩුවෙන් කපලා දැම්මා. අවුරුදු 16 තරුණියක් තමන්ගේ කෙස්කළඹට කෙස් වැටියට කොච්චර ආසා කරනවාද. ඇයට කාමයන් තිත්ත වෙලා තිබුනෙ. ඈ තමන්ගේ කෙස්වැටිය කපලා, ඒ කෙස් වැටිය සිඳලා පැත්තකින් තිබ්බා. හරි පුදුම දෙයක් වුනා පින්වතුනේ, ප්‍රාසාදයේ දොර වහගෙන ඇය භාවනා කලා. ප්‍රථම ධ්‍යානය උපදවාගත්තා. ඇයට

කොච්චර හොඳට සමාධිය තිබිලාද කියන්නෙ මේ මහා අරගලයක් අස්සෙ දෙමව්පියන්ට නොයෙක් නොයෙක් ආකාරයෙන් කිය කියා විවාහ වෙන්න බෑ කියලා කිව්වත්, පෙරහැර එනවා කියලා ඇහෙනවා තමාව කැන්දාගෙන යන්න. මේ ඔක්කොම අස්සෙ ඈ භාවනා කරනවා. චිත්ත දමනය විශ්මිතයි. බුදුරජාණන් වහන්සේගේ ගිහි ශ්‍රාවිකාවක් විදියට එහෙම සිත දමනය කරගෙන හිටියා කියන්නෙ විශ්මිතයි. ඇය පළවෙනි ධ්‍යානයට සමවැදුනා. පළවෙනි ධ්‍යානය කියලා කියන්නෙ පින්වතුනේ කාමයන්ගෙන් වෙන් වෙලා ලබන සැපක්. විවිච්චෙව කාමෙහි විවිච්ච අකුසලෙහි ධම්මෙහි - කාමයන්ගෙන් වෙන්වීමෙන් අකුසල ධර්මයන්ගෙන් වෙන්වීමෙන්, සවිතක්කං සවිචාරං විවේකජං පීතිසුඛං - විතර්ක විචාර, කුසල සහගත විතර්ක විචාර සහිත සමාධියෙන් හටගත්තා වූ විවේකයෙන් හටගත්තා වූ ප්‍රීතිය සැපය ඇති පළවෙනි ධ්‍යාන සමාධිය. ඒ කියන්නෙ පළවෙනි ධ්‍යානයනෙ. ඒ තමයි බුදුරජාණන් වහන්සේ ධ්‍යාන සුඛය, ඇත්තටම ධ්‍යානය කියලා කියන්නෙ මානසිකව විඳින සැපයක්. ධ්‍යානය කියලා කියන්නෙ එහෙම එකක්. ධ්‍යානය තුළ තියෙන මානසික සැපය, ශාස්තෘන් වහන්සේ මනාකොට පෙන්වලා දුන්නා. බුදුරජාණන් වහන්සේගේ ධර්මය තුළ එය මැනැවින් පෙන්වා තිබෙනවා. අපි මේ ධ්‍යාන සුව ආදිය ගැන දැනගන්නවා නම් භාග්‍යවතුන් වහන්සේගේ ධර්මයෙන්මයි ඉගෙන ගන්න ඕන. බුදුරජාණන් වහන්සේ කුමක් වදාළ සේක්ද? ඇයි හේතුව, ධ්‍යාන, විමෝක්ෂ, සමාපත්තිය ආදිය ගැන යථාභූත ඥාණය තියෙන්නෙ බුදුරජාණන් වහන්සේටනෙ. වෙන වෙන අයන්ට වඩා මේවාගැන මනාකොට දන්නේ අපි සරණ ගියපු ශාස්තෘන් වහන්සේ. වෙන වෙන අයන්ගේ බොරු කතා අහන්න ගිහිල්ලා වර්තමානයේ ඇතැම් කොට්ඨාශයක් භාවනා කරද්දි බඩේලිය යනවද කියලත් බැලුවානෙ. ඇයි හේතුව, ධ්‍යාන ගැන සමාපත්තිය ගැන වෙන වෙන අයන්ගේ බොල් අදහස් ඇසීම. හිතලු ඇසීම. ඒ නිසා මේ කාරණය අපි හොඳට තේරුම් ගන්න ඕන, ඒ තේරුම් කරලා දෙන්න අවස්ථාව ලැබිච්චි මොහොතේ අපි මේ මතක් කළේ. පින්වතුනේ මේ ධ්‍යාන සුඛය ගැන, දෙවෙනි ධ්‍යානය ගැන, තුන්වෙනි ධ්‍යානය ගැන, හතරවෙනි ධ්‍යානය ගැන, අරූපාවචර ධ්‍යාන ගැන, නිරෝධ සමාපත්තිය ගැන, මේ සියල්ල ගැන ලෝකයට මැනැවින් හෙළිදරව් කළේ අපේ ශාස්තෘන් වහන්සේ, ඒ බුදුරජාණන් වහන්සේගේ ධර්මයට අනුවයි අපි මේවා කල්පනා කල යුත්තේ, අපේ ජීවිතය තුලින් දැක්ක යුත්තෙ. දැන් මේ සුමේධාව මහා අරගල මැද ප්‍රථම ධ්‍යාන සුවය උපදවාගෙන සමාපත්තියට සමවැදුනා. අනීකදත්ත කියන

රජතුමා මන්තාවතී කියන නගරයට පැමිණියා, ඔහු පැමිණියේ පෙරහැරින්. වාරණවතී කියන නගරයේ ඉඳලා සුමේධාගේ මන්තාවතී කියන නගරයට රජ්ජුරුවො පෙරහැරින් ආවා. දැන් මේ වෙද්දි සුමේධා තමන්ගේ ප්‍රාසාදයේ ඉඳගෙන හොඳට අනිත්‍යය සංඥාව වඩනවා. ඇය එතකොට භාවනාවට කරලා තියෙන්නෙ විදර්ශනා. විදර්ශනා භාවනාවෙන් විදර්ශනා නිමිත්ත මුල් කරගෙන තමයි ඇය සමාධිය උපදවගත්තෙ. ඇය සමාධි සුඛයෙන් ඉන්නවා. පළවෙනි ධ්‍යානය. අනිත්‍ය සංඥාව හොඳට වඩනවා. අනීකදත්ත රජ්ජුරුවො පෙරහරින් ඇවිල්ලා සුමේධාගේ දෙමව්පියන් හමුවුනා. කුන්ච රජ්ජුරුවන්ව අගමෙහෙසියව හමුවුනා. එතකොට දෙමව්පියො දෙන්නා කඳුළු පිරිච්ච මුහුණින් අනීකදත්ත රජ්ජුරුවො අහනවා කුමක්ද සිද්ධ වුනේ? කුන්ච රජ්ජුරුවො සියලු සිදුවීම කිව්වා සුමේධා මේ විවාහයට කැමැති නෑ, සුමේධා කැමැති පැවිද්දටයි කියලා. එතකොට අනීකදත්ත රජ්ජුරුවො සුමේධාගේ දෙමව්පියන්ට කියනවා, දැන් සුමේධා කෝ? කියනවා, ඇය ප්‍රාසාදෙට ගිහිල්ලා දොර වහගත්තා. එතකොට අනීකදත්ත රජු කියනවා කමක් නෑ, මං සුමේධාවගේ හිත කැමැති කරගන්නම්. මං සුමේධා ඉන්න තැනට යන්නම් කියලා. ඉතින් ඈ අනිත්‍යය මෙනෙහි කරද්දී අනීකදත්ත රජතුමා රන් ආභරණ වලින් සැරසිලා සුමේධා ඉන්න ප්‍රාසාදයට නැග්ගා. රජතුමා සුමේධාවට ඇඟිලි බැඳගෙන මෙහෙම යාඥා කලා. දැන් සුමේධා ඇතුලේ. දොර වහගෙන. සුමේධාට ඇහෙන්න අනීකදත්ත කියන මහරජ්ජුරුවො ඇඟිලි බැඳගෙන ආයාචනා කරනවා. රාජ්‍යයේ අණසකත් ධන සම්පත් ඔක්කොමත් යස ඉසුරු ඔක්කොමත් අයිති ඔයාට. ඔයා තවම තරුණයි. කාමසම්පත් අනුභව කරන්න. මේ ලෝකෙ කාම සම්පත් කියලා කියන්නෙ දුර්ලභ දෙයක්. ඔයාට රජකම පවා පරිත්‍යාග කරලා තියෙන්නෙ. කාම සම්පත් අනුභව කරන්න, මං ඔයාට අවසර දෙන්නම් දන් පැන් දෙන්න, පින් කරගන්න. දුක් වෙන්න එපා. ඔයාගේ අම්මා තාත්තා හරී දුකෙන් ඉන්නෙ. දැන් මෙහෙම අනීකදත්ත රජතුමා බොළඳ කතා කිව්වා සුමේධාට. එතකොට සුමේධා මෙහෙම පිළිතුරු දෙනවා. ඔයත් ඔය කාමාසාවන්ට ආසා කරන්න එපා. ඔය කාමයන්ට කැමැත්තක් ඇති කරගන්න එපා. කාමයන්ගේ ආදීනව දකින්න. මහා මන්ධාතු කියන සක්විති රජ්ජුරුවො සතර මහා දිවයිනටම අධිපති වෙලා හිටිය. ඒක පින්වතුනි අතීත සිද්ධියක්. මහා මන්දාතු කියලා රජෙක් හිටියා.ඒ කාලෙ මිනිස්සුන්ගේ ආයුෂ හරී දීර්ඝයි. දීර්ඝ ආයුෂක් තියෙන කාලෙක මේ මහා මන්ධාතු කියන රජ්ජුරුවො මනුස්ස ලෝකෙ සක්විති රජ වුනේ. කොච්චර ආයුෂ දීර්ඝ ද කියන්නෙ ඒ කාලෙ

මනුස්සයාගෙ ආයුෂය දිව්‍ය ආයුෂ ඉක්මවා ගිහින් තිබුනා. අතිදීර්ඝයි. අතිදීර්ඝ ආයුෂක් තිබුනා. ඔය ආයුෂ තියෙන කාලෙ තමයි මේ මහා මන්ධාතු කියන සක්විති රජ්ජුරුවො රජකම් කලේ. ඒක පින්වතුනි අතීතයේ සිද්ධ වෙච්චි හරි පුදුම සහගත පුවතක්. මේ රජ්ජුරුවො කාමයන්ට අග්‍ර වෙලා හිටියෙ. නමුත් එයා මරණයට පත්වුනේ කාමයන්ගෙන් තෘප්තිමත් නොවීමයි. අතිදීර්ඝ කාලයක් මේ මහා මන්ධාතු රජ්ජුරුවො සක්විති රජෙක් විදියට සිව් මහා දිවයිනටම අධිපති වෙලා වාසය කලා. ඒ රජ්ජුරුවන්ට රාජකීය සෘද්ධි තිබුනා. ඒ සෘද්ධි වලින් ඕන තරම් ධනය ලැබෙනවා. මේ ඔක්කොම තිබ්බ රජ්ජුරුවො කාමයන්ගෙන් තෘප්තිමත් නොවීම කළුරිය කලා. ඒ කළුරිය කරද්දි ඔය මහා මන්ධාතු කියන රජ්ජුරුවො පින්වතුනි හසුනක් ලියනවා. ඒ හසුනේ ලිව්වෙ මහා මන්ධාතු නම් වූ මහරජ්ජුරුවො කාලක්‍රියා කලේ කාමයන් ගැන තෘප්තිමත් නොවීමයි. එහෙමයි ලිව්වෙ. ඒ රජ්ජුරුවො ගැන විස්තරය සුමේධා අනීකදත්ත රජ්ජුරුවන්ට කියනවා. එයාගේ ආසාව වත් පිරුනෙ නෑ. සත්රුවන් වැස්සක් ඇදහැලුනත් කාමයන් ගැන තෘප්තිමත් නැති මිනිස්සු මැරිලා යන්නේ අතෘප්තිමත්වයි. න කහාපන වස්සේන තිත්ථි කාමේසු විජ්ජති - කාමයන් පතන මනුස්සයාට ධනය වැහි වැස්සත් ඇති කියා හිතෙන්නේ නැත. ධනය වැහි වැහැලා ධනය කඳු හැදුනත් මනුස්සයාට ඇති කියලා හිතෙන් නෑ, ඒ මනුස්සයා තව චුට්ටක් තිබ්බා නම් කියලා හිතනවා. අප්පස්සාදා දුකා කාමා - කාමය යනු අල්පාශ්වාදයක් ඇති දුක් ගොඩකි. ඉති පණ්ඩිතො - මේක මෙහෙම තේරෙන්නෙ නුවණැත්තන්ටය. නුවණැත්තො එසේ තේරුම් ගත් කල්හි අපි දිබ්බේසු කාමේසු රතිං සොනාධි ගච්ඡති - දිව්‍ය කම්සැපයකටවත් එයා ඇලෙන්න යන්නේ නැත. තණ්හක්කය රතො හොති ඉති විඤ්ඤාය පණ්ඩිතො - තණ්හාව ක්ෂය කිරීමටම ඔහු ආසා කරනවා. ඒක තමයි බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක වූ නුවණැත්තො කරන දේ. ඉතින් එහෙම තමයි භාග්‍යවතුන් වහන්සේගේ ධර්මයේ සඳහන් වෙන්නෙ, ඒ ගැන සුමේධා මේ වෙලාවේ කියනවා. කාමයන් කියන්නෙ කඩුවයි මස් වැදැල්ලයි වගේ දෙයක්. භයානක සර්පයෙකුගේ හිස පැත්ත වගේ දෙයක්. භයානක සර්පයෙකුගේ හිස පැත්ත කියන්නෙ පින්වතුනේ. භයානක සර්පයාගේ වඩාත් භයානක කොයි පැත්තද, හිස පැත්ත. සර්පයාගේ විසඝෝර සර්පයෙකුගේ භයානකම පැත්ත ඒ සර්පයාගේ හිස. කාමය කියන්නෙ ඔන්න ඔය වගේ එකක්. ගිනිකන්දක් වගේ දෙයක්. කාමය ගිනිකන්දක් වගේ කියන එකේ අදහස. ගිනිකන්දේ ගිනි තියෙන්නේ ඇතුලේ. කොයිවෙලේ පුපුරාවිදෝ දන්නේ නැත. ගිනිකන්දේ

ඇතුලේ තියෙන්නෙ ගිනි. පිටට කන්ද තියෙනවා. ගිනි හංගගෙන කන්ද ඉන්නවා. කොයිවෙලාවේ පුපුරයිද දන්නෙ නෑ. ඒ වගේ ලස්සන රූප තියනෙවා, ඒ ලස්සන රූප වලට අපිට ආසා හිතෙනවා. අපි ළංවෙනවා. ලස්සන රූපෙට ආදරය කරනවා. අනේ මේ ලස්සන රූපෙ මගේ වෙනවා නම්, ජීවිත කාලෙම මට අයිතිවෙනවා නම් කියලා අපි ඒක ලබාගන්න උත්සාහ කරනවා. ඔන්න අපි ඒකට බැඳුනා. බැඳුනාට පස්සෙ ඒ රූඵයත් එක්ක අපේ හටගත්තා බන්ධනය. ඒකට කියනවා කාම බන්ධනය. දැන් කාම බන්ධනය හටගත්තට පස්සෙ අපි ආසා කරන රූපය වෙනස් වෙනවා. ඒ රූපය තිබුනා වගේ තියෙන් නෑ. අපි ආසා කරපු ලස්සන නැතිව යනවා. දැන් රූපයේ ලස්සන නැතිව යනකොට, නැතිව යනකොට රූපයට ආසා කරපු කෙනා වේදනා විදිනවා, කෙඳිරි ගගා විඳවනවා. දුම් දානවා. ගිනිකන්ද පුපුරන්න කලින් මොකෝ වෙන්නෙ දුම් දානවා. ඊටපස්සෙ ඔන්න ආසා කරපු රූපය නැසී යනවා. නැසි යද්දි මොකක්ද වෙන්නෙ? නැසීගියා කියන්නෙ පින්වතුනි ගිනිකන්ද පිපිරුවා, විනාසයි. ඉතින් ඒ නිසා තමයි කියන්නෙ කාමයන් කියන්නෙ හරියට ගිනිකන්දක් වගේ දෙයක්. ඇටසැකිල්ලක් වගේ දෙයක්. මේ ඇටසැකිල්ල කියන එකේ අදහස, බලුකුක්කෙකුට ගොදුරු හොයාගෙන යනකොට කුක්කට අහුවුනා මස්කට්ටක්. මස් කට්ටේ තියෙන සුවඳට කුක්කා මේක ගත්තා. බඩගින්නට හපනවා හපනවා කට්ට නිසා හැපෙන්නේ ද නැත. බඩක් පිරෙන්නේද නැත. ආසාවට අතහරින්නේද නැත. කාමය කියලා කියන්නෙත් මෙන්න මේ වගේ. ඊළඟට ඈ කියනවා අනිච්ඡා අද්ධවා කාමා බහුදුක්ඛා මහා විසා අයෝග්ලෝව සන්තංතු අගමූලා දුමප්පලා - කාමයෝ අනිත්‍යයි, අස්ථිරයි, බොහෝ දුක් තියෙනවා, ගොඩාක් දුක් තියෙනවා. දවස මුළුල්ලේ රත්වෙච්චි යකඩ ගුලියක් වගේ හැම දුකටම මුල. කාමය කියලා කියන්නෙ ගහක ගෙඩි වගේ. ඈ මෙහෙම කාමය සම්බන්ධයෙන් දීර්ඝ විස්තරයක් කාටද මේ කරන්නෙ? තමන්ව විවාහ කරගන්න ඇවිල්ලා ඉන්න ආදරවන්ත රජ්ජුරුවන්ට මේ කියන්නෙ. ගස්වල ගෙඩි වගේ, මස්වැදලි වගේ, මේ කාමයන් දුකක්මයි හදන්නෙ. ගස්වල ගෙඩි වගේ කියන්නෙ, භාග්‍යවතුන් වහන්සේගේ උපමාවක්. හොඳට ගෙඩි පිරිච්ච ගහක් තියෙනවා, ඒ ගෙඩි පිරුණු ගහට විනාශය එන්නෙ ගෙඩි නිසාමයි. කාමය කියන්නෙත් මෙන්න මේ වගේ. කාමසම්පත් තියෙන තැන එතැන හරී උපද්‍රව සහිතයි, අනතුරු සහිතයි. අර්බුද සහිතයි. කාමය මස් වැදලි වගේ කියන උපමාවෙන් මොකක්ද කියන්නෙ, මස් වැදැල්ලක් අරගෙන උකුස්සෙක් ඉගිලුනා. ඒ උකුස්සා මස් වැදැල්ල අරගෙන ඉගිල්ලිලා යනකොට අනිත් උකුස්සො ටික

පස්සෙන් පන්නන්න පටන් ගත්තා. උන්ටත් ඕන අර මස් වැදැල්ල. උන් මස් වැදැල්ල අරගන්න අර උකුස්සාට කොටන්න පටන් ගත්තා. එතකොට උකුස්සා අනිත් උකුස්සන්ගේ තියුණු හොට පාරවල් වලින් වේදනා විඳිනවා විඳිනවා ඉවරයක් නෑ, බැරිම තැන උකුස්සා මොකද කලේ, මේ මස් වැදැල්ල අතහැරියා. ඒ කරදරය නිසා තමයි ඔක්කොම කියලා. අතහැරියා විතරයි වෙන උකුස්සෙක් ඒක අල්ලගත්තා. ඒ උකුස්සා ඒක අල්ලගත්තා විතරයි අර හොටවල් වලින් ගුටිකකා හිටපු පහර කකා හිටපු උකුස්සාගේ ප්‍රශ්නෙ ඉවරයි. අනිත් උකුස්සො ටික ඔක්කොමලා එකතු වෙලා අල්ලගත්ත එකා පස්සෙ ගියා. ඔන්න ඔය වගේ තමයි පින්වතුනි කාමයේ සෙල්ලම. කාමය පස්සෙ යන තාක් අර්බුද ද පස්සෙ එන්නේය. කාමය පස්සෙ යනතාක් ප්‍රශ්න ද පස්සෙන් එන්නේය. කාමයත් එක්ක ඉන්න තාක් සියලු දැවිලි ද පස්සේ එන්නේය. ගින්නකට පළගැටියෙක් ඇදෙනකොට ඒ පළගැටියාට ගින්නට ඇදෙනතාක් කල් දැවෙන්න සිද්ධ වෙනවා. අන්න ඒ වගේ තමයි මේ කාමයන් එක්ක ගත කරන ජීවිතේ. කාමය කියන්නෙ දුකක්මයි. සිහිනෙකින් දැවටුනා වගේ. ණයට ඉල්ල ගත්ත දෙයක් වගේ. කාමය කියන එක ගැන හරියට නුවණින් හිතපුවාම නිකං හීනයක් වගේ කියනවා. හීනෙ කොච්චර ලස්සනට දැක්කත් ඒක හීනෙනෙ. හීනෙ කොච්චර ලස්සනට දැක්කත් ඇහැරෙනකොට ඒ ඔක්කොම ඉවරයි. අපි හිතමු දුප්පත් මනුස්සයෙක් ලොතරැයියක් ඇදිලා ලොකු ගෙයක් හදාගෙන හොඳ වාහනයක් ඇතිව හරි සැපට ඉන්නවා හීනයක් දකිනවා. මේ මිනිහා ඇහැරෙනවා. ඇහැරිච්ච ගමන් මනුස්සයා ඉන්නෙ කොතනද, ඒ තමන් හිටපු දුප්පත් ජීවිතේමයි. එයා දැක්ක හීනය හීනයක්ම පමණි. එය සඵල වේවා වේවා කියලා පතනවා. එය පැතුමක් පමණි, සිද්ධ වෙන් නෑ. අන්න ඔය වගේ තමයි කියනවා මේ කාමය කියන එක. ඇත්තෙන්ම පින්වතුනි අපි එකට ඉන්නවා, ඥාතීන් විදියට, අපි ඉන්නවා හිතමිත්‍රයො විදියට, ආදරය කරන අය විදියට. අපි කැමැතියි හැමදාම මෙහෙ ඉන්න. නමුත් බලන්න කාලය ගතවෙලා යනකොට එක එක උවදුරු එනවා. අපි ආදරේ කරන අය වෙනස් වෙලා යනවා. එක්කො අපි ආදරේ කරන අයට දුක් පැමිණෙනවා. එක්කො ඒ අය මියපරලොව යනවා. කොච්චර ප්‍රශ්න තියෙනවාද මේ කාමය එක්ක අපි ඉන්න තාක්. ඇත්තටම මේ රහතන් වහන්සේලා, රහත් තෙරණිවරු කොච්චර සැනසුනාද පින්වතුනේ මේ ප්‍රශ්නෙන් මේ උත්තමයො නිදහස් වුනානෙ. අපිට හිත පහදවගන්න තියෙන්න අපිට මේ ප්‍රශ්නෙ පටලැවිලා. ප්‍රශ්නෙ පටලැවිලා ඉද්දි වුනත් අපිට මේ බණ පද ඇහනෙවා කියන්නෙ වාසානාවක්. ඒ ගැන සිහි කර

කර හිත පහදවගන්නයි තියෙන්නෙ මේ බණ පද අහලා කාමය කියලා කියන්නෙ හරියට ණයට ඉල්ලගත්තු දෙයක් වගේ, ණයට ඉල්ලගත්තු දේක තියෙන ප්‍රශ්නෙ මොකක්ද, ණයකාරයො ඒක කොයිවෙලේ ඉල්ලාවිද දන්නෙ නෑ. ඔය ප්‍රශ්නෙ තියෙනවානෙ ණයට ගත්ත දේ. ණයට ගත්ත දේ සැපසේ පරිභෝග කරන්න බෑ, ඒක කොයි වෙලේ අහිමි වෙයිද කියලා කියන්න බෑ. ඒක ණයට ගත්ත එකක් නිසා. කාමයත් අන්න ඒ වගේ. මේ කාමයන් විස පොවාපු ආයුධ වගේ. වේදනා ඇතිකරවනවා. තුවාලයක් වගේ දුකමයි හදන්නෙ. මේ කාමයො විස පොවාපු ආයුධ වගේ, විස පොවාපු ආයුධය ඇනුනහම චූටි වේදනාවක් එනවා. ඒ චූටි වේදනාවට වඩා ගොඩාක් බලවත් ඒකෙ විස. සමහර විට අර ශරීරයේ විස පොවාපු ඊතලයක් ඇනුනොත් මේ ශරීරයේ අඟල් කිහිපයක් තමයි පසාරු කරගෙන යන්නෙ. හැබැයි විස, විස ඇඟ පුරාම දුවනවා. ප්‍රිය රූපයකට හිත බැඳුනොත් ඒක එක රූපයක්. හැබැයි ඒ එක රූපය සම්බන්ධයෙන් තියෙන බන්ධනය ඇඟ පුරාම දුවනවා. ඒ බන්ධනය තමයි වේදනා දෙන්නෙ. එක රූපයකට ආදරය කලොත් එක රූපයකට පෙම් බැන්දොත් එක රූපයකට ආලය කලොත් ඒකෙ එක රූපයක් තමයි. නමුත් ඒ රූපය වෙනස්වීම, ඒ රූපය අහිමිවීම කියන එක මුළු ශරීරයටම දැනෙන් නැද්ද. අන්න වෙනස. ඔය වගේමයි පින්වතුනි කාමය ගැන අනිත් කාරණාත් තේරුම් ගත යුත්තේ. ඊළඟට ඈ කියනවා, කාමය කියලා කියන්නෙ හරියට තුවාලයක් වගේ, දුකමයි හදන්නෙ. දුක හද හද ඉඳලා අන්තිමේ මරණය කරා රැගෙන යනවා, ගිනිඅඟුරු වලක් වගේ හරී බියජනකයි, වධකයෙක් වගේ හැමතිස්සේම රිද්දනවා. වධකයා කියන්නෙ වද දෙන එකානෙ. කාමය කියන්නෙ අපිට වද දෙන එකා. කාමය හින්දා තමයි අපිට ඔක්කොම වද. කාමයන් එක්ක යම්තාක් කල් ඉන්නවාද, අපිට වද දෙන වධකයාත් එක්ක අපි ඉන්නෙ. ඉතින් ඒ වධකයාගෙන් නිදහස් වෙච්චි මුනිවරු ගැන මුණිවරියෝ ගැන වද විඳ විඳ වුනත් අපිට අහන්න ලැබුනා කියන්නෙ ඒක අපේ වාසනාවක්. ඒවං බහුදුකා කාමා අත්තා කා අන්තරායිකා ගච්ඡත නමේ භගවතෙ විස්සාසො අත්තිති අත්ථනො - මේ කාමයන් ගොඩාක් දුකයි කියලා තියෙන්නෙ. අනතුරුදායකයි. ඒ නිසා ඔයා ආපහු යන්න. තමාට අයිති කිසිම දෙයක් භවයේ තියෙනවා කියලා මම විශ්වාස කරන්නෙ නෑ. සුමේධා අනීකදත්ත කියන රජ්ජුරුවන්ට කියනවා මාව කැන්දාගෙන ආපු ඔයා ආපහු තනියම හැරිලා යන්න. මාව එක්කං යන්න බෑ, තමාට අයිති කිසිම දෙයක් මේ භවයේ තියෙනවා කියලා මං විශ්වාස කරන් නෑ කියනවා. ඇය කියනවා තමන්ගේ හිසගිනි ගත්ත වෙලාවට වෙන දෙයක් ගැන

සිතන්න වෙලාවක් නෑ. ඔළුව ගින් අරන් නම් තියෙන්නෙ ඔළුව ගිනිගත්ත මනුස්සයා ගින්න නිවීම ගැන හිතනවා මිසක්, ඒ මනුස්සයාට වෙන මොකුත් මතක් වෙන්නෙ නෑ. ඒ මනුස්සයාට වඩා වැදගත් වෙන්නෙ හිසට ඇවිලුනු ගින්න නිවාගැනීමයි. ජරා මරණ දෙක ලුහුබැඳගෙන එනකොට ඒකෙන් නිදහස් වෙන්නයි වීර්යය කළයුත්තෙ. පින්වතුනේ මේ ධර්මය මෙහෙම දැනෙනවා නම් අපිටත්, මේ රහතන් වහන්සේලා රහත් තෙරණිවරු කියන තරමටම අපේ හදවත් වලටත් මේ ධර්මය දැනෙනවා නම්, ජරා මරණ හැමතිස්සෙම අපේ පස්සෙ ලුහුබඳිනවානෙ. නමුත් අපිට අමතකයිනෙ අපි නාකි වෙනවා මැරෙනවා කියන දේ. අපිට මතක් කරගන්න වෙලාවක් නැනෙ. අපිට වැඩනෙ. අපි එක එක ඒවා කර කර ඉන්නවා. එක එක ඒවා කර කර රෑ දවල් ගතවෙනවා, අපි නාකි වෙනවා, මරණයට ළංවෙනවා. බලන්න මහා ප්‍රඥාවන්ත මුණිවරු මුණිවරියො මේක කලින්ම දැක්කානෙ. අවුරුදු 16 සුමේධා කියනවා  හිසට ගිනිගත්ත කෙනාට ගිනි නිවනවා ඇරෙන්න වෙන එකක් වැදගත් වෙන්නෑ, ඒ වගේ ජරා මරණ දුකින් පීඩාවට පත්වෙච්චි මට ඒකෙන් නිදහස් වීමමයි වටින්නෙ මං ඒකට වීර්යය කරනවා. එහෙම කියලා සුමේධා ප්‍රාසාදයේ දොර ඇරියා. ඇය දැක්කා දෙමව්පියනුත් අනීකදත්ත කියන තමන්ව කැන්දාගෙන යන්න ආපු කඩවසම් රජ්ජුරුවොත් බිම වාඩිවෙලා අඬනවා. ඇය එයාලට මෙහෙම කිව්වා. මේ සංසාරෙට කෙළවරක් නෑ, තාත්තාගෙ මරණයේදී සහෝදරයාගේ වදයේදී තමන් වද විදිද්දී නැවත නැවත හඬ හඬා සිටින අඥාණ සත්වයන්ට මේ සංසාරය දිගයි. තමන් එක්ක එකට ඉන්න අය අහිමි වෙවී යනකොට ඒ අයට කරදර එනකොට අඬ අඬා ඒ අයම යළි පත පතා යන පුද්ගලයාගේ සසර දිගයි. අපිට ප්‍රශ්න එනකොට පින්වතුනේ නිරායාසයෙන් අපි පතන්නැද්ද මේ සසරට වැටිච්ච හිත. අපේ ඥාතියො අහිමි වෙද්දි අපි හිත්වලින් පතනවා අනේ මට ආදරෙන් හිටපු මගේ අම්මා, එක්කො මට ආදරෙන් හිටපු මගේ තාත්තා, මගේ ආදර සහෝදරයා සහෝදරිය අනේ මේ අය යළි යළිත් මට ලැබේවා. හදවත් වලින් පතනවා. ඔහොම පත පතා  යන සසර එබඳු පුද්ගලයාට දිගින් දිගට දිගින් දිගට දීර්ඝ සසරක පටලැවෙන්න සිද්ධ වෙනවා. මේ සංසාරේ කෙළවරක් නැතිව යන ගමනේදීත් හැඬූ කඳුළු, බීපු කිරි ගලාගිය ලේ කොයිතරම් ද කියලා සිහි කරන්න. සුමේධා තමන්ගේ දෙමව්පියන්ටත්, තමාව කැන්දාගෙන යන්න ආපු අනීකදත්ත කියන රජ්ජුරුවන්ටත් බුදුබණ කියලා දෙනවා. මේ සංසාර ගමනේ එනකොට අඬපු කඳුළු කොච්චරද කියලා සිහි කරන්න. සතර මහා සමුද්‍රයට වඩා මේ සසරේ අපි ඇඬුවා. සතර මහා සමුද්‍රයේ ජලයට වඩා

අම්මාගෙන් කිරි බිව්වා. සතර මහා සමුද්‍රයේ ජලයට වඩා මේ එක ශරීරයකින් අපි රුධිරය හෙලුවා. එක සත්වයෙක් විදියට පින්වතුනේ, එහෙම දීර්ඝ ගමනක්, එහෙම දීර්ඝ ගමනක් අපි හැමදෙනාටම තියෙනවා, දීර්ඝ ඉතිහාසයක්. ඒ ඉතිහාසය හැදුනේ කඳුළු වලින්, ලේ වලින්. මහා සාගරයේ පරදන තරම් කඳුළු ගොඩකින් අපේ ඉතිහාසය හැදී තිබේ. මහා සාගරයේ ජලය පරදන තරම් ලේ ගොඩකින් අපේ සංසාරය අපේ ඉතිහාසය හැදී තිබේ. ඉතින් මෙහෙම සසරක් මේ යන්නෙ. සත්වයන්ගේ එකතුවෙන ඇටසැකිලි කන්දරාව සිහි කරන්න. දීර්ඝ සංසාරෙ යනකොට ඇටසැකිලි කන්දරාව, කොච්චර මේ ලැබෙන ජීවිත වල ඇටසැකිලි ගොඩ ගැහෙනවාද කියන එක සිහි කරන්න. මේ කඳුළු සතර මහා සාගරයට උපමා කරන්න කියලායි බුදුසමිඳුන් වදාළේ. බීපු කිරිත් ඒ විදියට හිතන්න කියලයි තියෙන්නෙ. ඇට ගොඩ ගැන සිහි කරන්න තියෙන්නෙ වේපුල්ල පර්වතයට සමාන කරලා, එක කල්පයක් ඇතුලේ සත්වයෙක් උපදිනකොට, මැරෙනකොට එයාගේ ඇටසැකිලි ටික එකතු කලොත් එහෙම වේපුල්ල පර්වතයට වඩා විශාල කන්දක්, මහා විශාල ඇටසැකිලි කන්දක් ගොඩගැහෙනවා කියනවා. ඉතින් එහෙමයි දීර්ඝ සසර. දඹදිවින් යුක්ත මේ පොළොව වෙරළු ගෙඩි ගානට ගුළි කරන්න කිව්වා. ඊටපස්සෙ ඒ එක එක ගුලිය වෙන් කරන්න කිව්වා, මේ මගේ ජීවිතයේ අම්මා, මේ ඒ අම්මගේ අම්මා කියමින්. මේ බුදුරජාණන් වහන්සේ අනවතග්ග සංයුත්තයේදී දේශනා කරපු ධර්මයක්. මේ මුළු මහත් පෘථිවියම වෙරළු ගෙඩි ගාණට චූටි චූටි ගුලි වලට වෙන් කරනවා. වෙරළු ගෙඩි ගානේ ගුලි වලට පෘථිවියේම පස් කෙනෙක් වෙන් කලා කියලා හිතන්න. එතකොට කොච්චර ගෙඩි ගාණක් එයිද. ඒ එක එක ගෙඩියක් වෙන් කරනවා. මේ මගේ අම්මා, මේ ඒ අම්මගේ අම්මා, එහෙම කිය කිය මේවා වෙන් කරනවා. එහෙම වෙන් කරද්දි ගුලි ගාණ ඉවරවෙලා යනවා අම්මලාගේ පරපුර ඉවර වෙන් නෑ. ඒක නුවණින් කල්පනා කලොත් තේරුම් ගන්න පුලුවන්. මේ ගුලි ගාණ ඉවර වුනත් මව් පරපුර ඉවර වෙන් නෑ, ඒ මව් පරපුර ඉවර වෙන්නෙ නැති එකෙන් අපිට මොකක්ද තේරුම් ගන්න තියෙන්නෙ? මව් පරපුර ඉවර වෙන්නෙ නැති එකෙන් අපිට තේරුම් ගන්න තියෙන්නෙ පින්වතුනේ සසරේ දිග. ඒ තරම් දීර්ඝ සසරක්. ඒ උපමාව සිහිකරන්න කියනවා. ලෝකෙ ඔක්කෝම ගස්වැල් අරගෙන අඟල් හතරේ කෑලි වලට කඩලා ගොඩක් ගහන්න කිව්වා. ඊටපස්සෙ ඒ එක එක දර කැබැල්ල සංසාරේ තාත්තලා වෙනුවෙන් වෙන් වෙන්න කිව්වා. අර චූටි දර කෑලි සංසාරේ තාත්තලා වෙනුවෙන් වෙන් කරනවා. ඒත් සංසාරේ තාත්තලා ඉවර වෙන් නෑ, ඒ උපමාවත් සිහි  කරන්න. සංසාරෙ තාත්තලා

වෙච්චි ප්‍රමාණ. සංසාර ගමනේ එනකොට අපිට කොච්චර තාත්තලා හිටියාද කියන එක අපිට ගණන් කරලා කෙළවරක් කරන්න බෑ, ඒ තරම් සසර දිගයි. අවුරුදු සීයකට වරක් කණ කැස්බෑවා මුහුදින් උඩට එනවා. මුහුදේ වැටුණු වියගහක් පාවෙවී තියෙද්දී ඒ වියගහේ සිදුරෙන් කණ කැස්බෑවාගේ හිස ඇතුල් වෙලා අහස පේනවා වගේ මනුස්ස ජීවිතය ලැබීම ඊටත් වඩා දුෂ්කරයි. කණ කැස්බෑවා වියසිදුරෙන් අහස බලනවාටත් වඩා මනුස්ස ජීවිතයක් ලැබීම දුෂ්කරය. බුදුරජාණන් වහන්සේ වදාළ ධර්මය සුමේධා රජකුමාරි එදා ඒ රාජකීය පිරිසට කියලා දුන්නා. මේ අසාර වූ රූපය පෙණ පිඩක් හැටියට සිහි කරන්න. අනිත්‍ය වූ පඤ්චුපාදානස්කන්ධය දෙස බලන්න. නිරයේ ඇති අනන්ත දුක් සිහි කරන්න. නොයෙක් ජාති වල ඉපිද ඉපිද සොහොන් බිම වැඩි කරපු හැටි සිහි කරන්න. කෑමට ඇති ගිජුකම කියන කිඹුල් බිය සිහි කරන්න. මේ පැවිද්දට ආපු කෙනාට ඒක තියෙන්නෙ. කුම්භීල භය. කිඹුල් බිය. ඒ කිඹුල් බිය කියලා කියන්නෙ බුදුරජාණන් වහන්සේගේ ශාසනයට පැමිණි භික්ෂුවට මෙන්න මෙහෙම භයක් හටගන්නවා කියලා කියනවා. ශාසනය තුළ පනවලා තියෙන සිල්පද ගැන. ඉර අවරට ගියාට පස්සෙ ආහාර නොගත යුත්තේය. මේ මේ ආහාර කැපය, මේවා අකැපය. එහෙම තියෙනවානෙ පැනවීම්, ශික්ෂාපද. සංසාර දුකින් නිදහස් වෙන්න ඕන කියලා භික්ෂුවක් මහණ වුනාම එයාට මේ සිල්පද ගැන අහන්න ලැබෙනවා. එතකොට එයා කල්පනා කරන්න ගන්නවා කියනවා අප්පේ මේ මහණකමක් නිසා මට වෙච්චි එකක්. මං ඉස්සර ගිහි ජීවිතේ ඉද්දි හිතෙන වෙලාවට කෑවා, හිතෙන දෙයක් කෑවා. දැන් මේකෙ මට කෑම බීම සම්බන්ධයෙනුත් සෑහෙන ප්‍රශ්නයක් නොවැ. මීට හොඳයි ගිහි වෙන එක කියලා එයා සිවුරු හරිනවා. ඒක තමයි කිඹුල් භය. ඒ වගේ මේ ජීවිතේ යථාර්තය තේරුම් අරගත්තෙ නැති කෙනා ඒ වගේ හීන දේකටත් කාමය වැළඳගන්නවා. සුමේධා කියනවා අන්න ඒ උපමාවත් සිහි කරන්න කියනවා. චතුරාර්ය සත්‍යය සිහි කරන්න, ආර්ය සත්‍යය හතර. දුකක් තිබේ, දුකට හේතුවක් තිබේ, දුක නිරුද්ධ වීමක් තිබේ, දුක නිරුද්ධ කරන මාර්ගයක් තිබේ. ඇත්තෙන්ම පින්වතුනේ බුදුරජාණන් වහන්සේ කොයිතරම් අනුකම්පාවෙන්ද මේ සත්‍යය අපිට දේශනා කලේ. බුදුරජාණන් වහන්සේ ජීවිතේ දුක ගැන වදාළා. නුවණ තියෙන මනුස්සයෙකුට ඒ දුක ගැන කතාව ඇහුවොත් එයා ඕන ආගමක වෙන්න පුලුවන්, ඕන දර්ශනයක වෙන්න පුලුවන්, එයාට තියෙනවා නම් බුද්ධිමත් බවක් කරුණු කාරණා තේරුම් ගන්න එයාට හොඳට පැහැදිලිව තේරෙනවා බුදුරජාණන් වහන්සේ දුක ගැන කියපු එක කොච්චර සත්‍යයක්ද.

ජාතිපි දුක්ඛා - ඉපදීම දුකක්. ඉපදීම දුකක් බව ප්‍රකටයි. ඒක මේ වෙන කාගෙන්වත් අහන්න ඕන නෑ, ඉපදීම දුකක්ද, ඒක කොහොමද තේරුම් ගන්නෙ කියලා. අපි ඉපදිච්චි ඈයො විදියට අපිට පේනවා මේකෙ තියෙන දුක් ගොඩ. ඉපදීම දුකක්. ඉපදීම නිසාම, ජරාපි දුක්ඛා - නාකිවීම දුකක්. ව්‍යාධිපි දුක්ඛො - ලෙඩදුක් කියන්නෙ මහා දුකක්. මරණම්පි දුක්ඛා - මැරීයාමත් දුකක්. අප්පියේහි සම්පයෝගෝ දුක්ඛො - අප්‍රිය අමනාප අයත් එක්කත් අප්‍රිය අමනාප දේ එක්ක එක්වෙන්න වීමත් දුකක්. පියෙහි විප්පයෝගෝ දුක්ඛො - ප්‍රිය වූ දේවල් වලින්, ප්‍රිය අයගෙන් වෙන් වෙන්න සිදුවීමත් දුකක්. යං පෙච්චං න ලබති තම්පි දුක්ඛං - අපි ආසා කරන දෙයක් තියෙනවා ඒක නොලැබීම දුකක්. මොනවද අපි ආස කරන්නෙ? වයසට යන්නෙ නැත්නම් හොඳා කියලා කැමැතියි. නමුත් ලබන්න බෑ. ලෙඩ හැදෙන්නැත්නම් හොඳා කියලා අපි කැමැතියි. මරණයට පැමිණෙන්නේ නැත්නම් හොඳයි කියලා අපි කැමැතියි. ලබන්න බෑ. ප්‍රිය අය වෙන් වෙන්නෙ නැතිනම් හොඳයි කියලා අපි කැමැතියි. ලබන්න බෑ. අන්න ඒ ලබන්න බැරි දේ ගැන අපේ හිතේ යම් කැමැත්තක් ඇත්ද, ඒකත් දුකකි. සංක්ෂේපයෙන් කියනවා නම් පඤ්චුපාදානස්කන්ධයම දුකයි. රූප, වේදනා, සංඥා, සංස්කාර, විඤ්ඤාණ කියන පහම දුකයි. එතකොට මේ දුක කියන එක අපිට හොඳ කල්පනාවෙන් බැලුවොත් ප්‍රකටම පේන කාරණාවක්. බුදුරජාණන් වහන්සේ දේශනා කලා දුක කියා යම් දෙයක් ඇත්ද, ආර්ය සත්‍යයක්, ඒ දුක පවතින්න හේතුව දුක්ඛ සමුදයයි. දුක හටගන්න හේතුව කුමක්ද, තෘෂ්ණාව. තෘෂ්ණාව නිසා දිගින් දිගට දිගින් දිගට සාංසාරික ගමනක දුක හටගත්තා. හැබැයි බුදුරජාණන් වහන්සේ ඒ ගැන දේශනා කරලා නැවතුන් නෑ, භාග්‍යවතුන් වහන්සේ සැනසිල්ලක් වදාළා. භාග්‍යවතුන් වහන්සේ මේකට විසඳුමක් වදාළා. ඒ තමයි දුක්ඛ නිරෝධය. නිවන. තණ්හාව සිඳ බිඳ දැමීම. තණ්හාවෙන් නිදහස් වූ නිවන කියන්නෙ අපිට තියෙන විසඳුම. බුදුරජාණන් වහන්සේ නිවනට ප්‍රතිපදාවකුත් වදාළා. අයමේව අරියො අට්ඨංගිකො මග්ගො - ඒ මේ ආර්ය අෂ්ටාංගික මාර්ගයයි. සම්මා දිට්ඨි, සම්මා සංකල්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි මේ වැඩපිලිවෙල. ඉතින් සුමේධා කියනවා එදා තමන්ගේ දෙමව්පියන් ඇතුළු පිරිසට ඔය චතුරාර්ය සත්‍යය සිහි කරන්න. බුදුරජාණන් වහන්සේ නමකගේ ධර්මයක් තියෙන කාලෙ මේ පඤ්චකාමයන් සොයන්නේ අහවල් දේකටද. මේ හැම කාමාශාවක්ම අතිශයින්ම කටුකයි. අමා දහම් තියෙන කාලෙ කාම දාහයකින් යුක්ත නම් ඒ කාමයන් අසවල් දේකටද, මේ කාම ඇල්ම ගින්නක්මයි, අරුත් සුන්

දෙයක්මයි. කම්පාවක්මයි, තැවීමක්මයි. හැබැයි අම්මෙ තාත්තෙ පැවිදි ජීවිතයට සතුරෝ නෑ නමුත් කාමයට ගොඩාක් සතුරෝ ඉන්නවා. එයාලට මේ කාමයෙන් ඇති ප්‍රයෝජනය මොකක්ද? රජ, ගිනි, සොර, බිය යන මේ ඔක්කෝටම කාමයන් ගොදුරු වෙනවා. රජවරුන්ටත් කාමය ගොදුරු වෙනවා, තමන් ආස කරන දේ රජවරුන් අරගන්නවා. තමන් ආස කරන දේ ගින්නෙනුත් දවලා දානවා. තමන් ආස කරන දේ හොරුත් ගන්නවා. තමන් ආස කරන දේ ජලයටත් යටවෙනවා. කාමයට හරියට ප්‍රශ්න. කාමයට ප්‍රශ්න එනකොට කාමය අල්ලගෙන හිටපු කෙනා තමයි විඳවන්න ඕන. කාමය නොයෙක් නොයෙක් ආකාරයෙන් විනාශ වෙලා යනකොට කාමය අල්ලාගෙන හිටපු කෙනාට මහා විඳවිලි. කාමය අප්‍රියයන්ට දායාද වෙනවා. කාමය නිසා ගොඩාක් සතුරෝ හැදෙනවා. අමා නිවන තියෙන කාලෙ මේ කාමයන්ට බැඳිලා වධ බන්ධන පීඩා විඳින්නෙ මොකටද. ඔයාලට මේ කාමයෙන් ඇති ප්‍රයෝජනය මොකක්ද. මේ කාමයන් ලාමක නිසාමයි මේ තරම් දුක් කරදර ඇතිවෙන්නෙ. දැල්වෙන හුලුඅත්ත අතට ගත්තු විටයි පිච්චෙන්නෙ. අත්හැරියාම පිච්චෙන්නේ නෑ. කාමයන්ද අන්න ඒ වගේයි. හුළු අත්තක් වගේ එය අත්හරිනතාක්ම සත්වයා දවනවා. බලන්න පින්වතුනි ඔක්කොම, බලන්න මේ අර්ථ පහදන්න ඒ උත්තමාවියො උත්තමයො පාවිච්චි කරපු උපමා. හුළුඅත්තක් අතට ගත්තු මනුස්සයෙක් මේ හුළුඅත්ත අරගෙන අන්ධකාරයේ යනවා. ආලෝකය ඕන නිසානෙ හුළුඅත්ත ගත්තෙ. ඒ යනකොට මෙන්න හුළඟක් එනවා. හුළඟ ආපු ගමන් මෙයාගේ ඇඟට තමයි අර ගින්දර සැර එන්නෙ. පිච්චෙන්න ගන්නවා. එයා නුවණැතියි නම් ඉක්මණින්ම කරන්න ඕන හුළුඅත්ත අතහරින එක. හුළුඅත්ත අතහරින තාක් දැවෙනවා. ඉතින් ඒ වගේ කියනවා මේ කාමයන්. මාප්පකස්ස හේතු කාම සුකස්ස විපුලං ජහීසුඛං මා පුතුලොමොව බලිසං ගිලිත්වා පච්චාවිහන්නසි - මේ අල්ප වූ කාම සැපයක් නිසා මහත් වූ ලෝකෝත්තර සැපය අහිමි කරගන්න එපා. ඒ නිසා ඇස් කන් ආදී ඉඳුරන් දමනය කරගන්න. බලුදම් වලින් බැඳපු බලුකුක්කෙක් වගේ මේ සත්වයන්ව කාමයෙන් බැඳලා තියෙන්නෙ. බඩගින්නෙ ඉන්න රොඩී මිනිස්සු බල්ලෙක්ව අල්ලගෙන මරලා දානවා වගේ මේ කාමයොත් ඔයාලට ඒ ටිකමයි කරන්නෙ. ඔයාලා අප්‍රමාණ වූ කායික මානසික දුක් දොම්නස් විඳින්නෙ කාමයන් නිසාමයි. ඒ නිසා මේ අනිත්‍ය කාමයන් අත්හරින්න. මේ කාමයන් තිබුනොත් ඒ හැම භවයම, හැම උපතම තියෙන්නෙ ජරා මරණ විතරයි. නමුත් ජරා මරණ රහිත වූ නිවන තියනෙ වෙලාවේ ඔයාලට මේ කාමයන්ගෙන් ඇති ප්‍රයෝජනය

මොකක්ද? මේ නිවන ජරා රහිතයි. මරණ රහිතයි, අජරාමර වීමට මූල නිවනමයි. මේ නිවන ශෝක රහිතයි, වැළපීම් රහිතයි. කෙලෙස් සම්බාධ රහිතයි, දුසිරිත් කිළුටු රහිතයි, බිය රහිතයි, තැවුල් රහිතයි, හරිම ලස්සනයි පින්වතුනේ අමෘත නිවන සාක්ෂාත් කරන්න පෙර ආර්ය ශ්‍රාවිකාවක් නිවන ගැන කියන කතාව. මේ සුමේධා ගිහි ජීවිතය අත්හරින්නත් කලින් කියන කතා. බොහෝ දෙනෙක් ඒ අමා මහ නිවන අවබෝධ කලා. ඉදින් දැන් පවා බුදු සමිඳුන් වදාළ ක්‍රමයට නුවණින් විමසනවා නම්, ඔන්න මතක තියාගන්න පින්වතුනේ ඒ වචන ආයෙමත්, දැන් පවා බුදුසමිඳුන් වදාළ ක්‍රමයට නුවණින් විමසනවා නම් එයාට නිවන් අවබෝධ කරන්න පුලුවන්. හැබැයි උත්සාහ නොකලොත් ලැබෙන්නෙ නෑ. ඉතින් සංසාරෙට ඇල්මක් නැති සුමේධා ඔහොම කිව්වා. ඒ වගේම අනීකදත්ත කියන රජ්ජුරුවන්ට දැනගන්න සුමේධා තමන් කඩුවෙන් කපපු කෙස් වැටිය බිම දැම්මා. සාමාන්‍යයෙන් රජ දුවක් කෙස් වැටිය කියලා කියන්නෙ ආසාවෙන් ආරක්ෂා කරන එකක්. කෙස්වැටිය කාන්තාවගේ ගෞරවයේ සංකේතයක්. ඈ එය කපලා බිම දැම්මා. එතකොට අනීකදත්ත රජතුමා නැගිට්ටා. මේ ඔක්කොම අහගෙන හිටපු ඒ රජ්ජුරුවො නැගිටලා සුමේධාගේ පියරජතුමාට යාඥා කරගෙන මෙහෙම කිව්වා, සුමේධාට මහණ වෙන්න ඉඩහරින්න. එතුමිය වෙනස් නොවෙන විමුක්තිය වූ ආර්ය සත්‍යය දකීවා. ඔව් පියත් ඇයව අත්හැරියා. ශෝකබයෙන් බියපත් වූ සුමේධා මහණ වුනා. සික්ඛමානාවක් වුනා. සික්ඛාමානා කියන්නෙ උපසම්පදාවට පුහුණු වෙන තැනැත්තී. අභිඥා හයම සාක්ෂාත් කලා. අග්‍ර ඵලය වන අර්හත්වය ලබාගත්තා. මහා යුද්ධයක් කරලා ඇය ජයගත්තා. ගෘහ බන්ධනය, කාම බන්ධනය අත්හරින්න ඇය මහා යුද්ධයක් කලා රජ දුවක් විදියට. ඇය දින්නා, අර්හත්වය ලබාගත්තා. රාජකුමාරිකාවක් වූ සුමේධා හට ඒ අමා නිවන අසිරිමත් දෙයක් වුනා, අද්භූත දෙයක් වුනා. අවසාන කාලයේ එතුමිය තමන්ගේ පුබ්බේනිවාස ඥාණයෙන් අතීත තොරතුරු හෙළි කලා. ඒ අතීත තොරතුරු කියන්නෙ ඒ උත්තමාවි මෙතෙන්ට ආවෙ මේ අග්‍රඵලය වන නිවන සුවසේ සාක්ෂාත් කලේ මොකක් නිසාද, කෝණාගමන භාග්‍යවතුන් වහන්සේ ලෝකයේ පහළ වෙච්චි කාලයේ සංඝාරාමයක් පිහිටෙව්වා. ඒ කාලෙ ධනංජානිත්, ඛේමාත්, මාත් එකතු වෙලා විහාර පූජාවක් කලා. ඒ මේ ශාසනයේ බිහි වුනු අර්හත් උත්තමාවියො. ඒ අයත් ඒ කාලෙ සංසාරෙ මුණගැහිලා. ඒ පුණ්‍ය කර්මයේ විපාක වශයෙන් සිය දහස්වර දස දහස් වර දෙවියන් අතර උපන්නා. මිනිස් ජීවිත වල උපන් වාර ගණන ගැන කවර කතාද. දෙවියන් අතර

ඉපදුනු කාලෙත් අපි ගොඩාක් බලසම්පන්නයි. මිනිසුන් අතර ඉපදුනු කාලෙ ගැන කවර කතාද. රත්න හතක් තියෙන සක්විති රජතුමාගේ අගමෙහෙසිය වෙලා මාත් ස්ත්‍රී රත්නයක් බවට පත්වුනා. ඒකට හේතුව කෝණාගමන බුදුසමිඳුන්ගේ කාලයේ කරපු පින්කම් වල විපාක. මේ ජීවිතයේදී නිවනට බැසගත්තා. ධර්මයේ ඇලුනු සුමේධා මේ බුදු සසුනේ නිවන් දැක්කා. අලාමක ප්‍රඥා තියෙන බුදු සමිඳුන්ගේ උතුම් වචන අදහාගත්තා නම් ඒ විදියටම අනුගමනය කරනවා නම්, ඔවුන් භවයට අයිති සියලු දේ ගැනම කළකිරෙනවා. නිවන කරාම යනවා. ඉතින් අපිටත් බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය මුණගැහුනු ජීවිතේ බුදුරජාණන් වහන්සේගේ වචන අදහාගෙන ඒ ධර්මයට අනුවම කටයුතු කරලා රහතන් වහන්සේලා සැනසුනු, රහත් තෙරණින් වහන්සේලා සැනසුනු නිවනේ සැනසෙන්න ලැබේවා, සාදු සාදු සාදු!!!

රැස් කල උදාරතර පුණ්‍ය ධර්මයන් සියලු දෙවිවරුන්ට අනුමෝදන් කරමු, සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවියෝ පින් අනුමෝදන්ව දිව්‍ය සැපයෙන් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ රැකවරණ අපි හැමදෙනාට දෙවියෝ සලසත්වා. දෙවියෝද සංසාර දුකින් අතමිදෙත්වා. සාදු සාදු සාදු!!! ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට පින් අනුමෝදන්ව නිදුක් නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සැලසේවා, ගෞතම ශාසනය තුළම චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කරගන්න යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද ධර්ම දානය සිදු කරන පින්වතුන්ලා මූලික වශයෙන් බලාපොරොත්තු වෙන පරිදි 2021 ජූනි මාසෙ 11 වෙනි දින මෙලොව එළිය දුටු පින්වත් සහන්‍යා කොඩිකා සිඟිති දුවට මේ සියලු පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදයෙන් තෙරුවන් සරණින් සියලු දෙවියන්ගේ රැකවරණින් කායික සුව මානසික සුව සැලසේවා. නිදුක් නිරෝගී සුවපත් භාවය, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ඒ දියණියගේ ජීවිතයට යහපත සළසන්නා වූ උතුම් කල්‍යාණ මිත්‍ර ආශ්‍රයම ලැබේවා. කිසිකලෙකත් පව්ටන්ගේ ඇසුරට නොවැටේවා. බුදුරජාණන් වහන්සේ සරණ ගියපු ශ්‍රාවක දුවක් විදියට සම්බුද්ධ ශාසනයේ පිළිසරණ ලබන්නට වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. ධර්ම දානය සිදු කරන පින්වතුන්ලාගේ නමින් මිය ගිය සියලු ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන් වෙත්වා. අප හැමදෙනාගේ නමින් මියගිය ඥාතීන්ගේ පරලොව ජීවිත සැපයෙන් සැපයටම පත්වෙත්වා. ඥාතීන් ඉක්මන් භවයකදීම සසර දුකින් අතමිදෙත්වා කියන අදහසින් පින් අනුමෝදනාව සිදු කරන්න. ධර්ම

දානය සිදු කලේ ඔස්ට්‍රේලියාවේ පදිංචි පින්වත් සුමුදු කොඩිකාර සහ නදීශානි අබේසේකර යන ඒ පින්වත් දෙපළ විසින්. උදව් උපකාර කල අබේසේකර සහ කොඩිකාර පවුල් වල සෑම සියලු දෙනාටත් චම්පා දුල්ශානි සහ පැතුම් ඩයස් යන සොහොයුරියන්ටත් මේ සියලූම පුණ්‍ය ධර්මයෝ අනුමෝදන්ව නිදුක් නිරෝගී සුවපත් භාවය දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ධර්ම දානය සිදු කලා වූ ඒ පින්වතුන්ලාගේ පවුල් වල සියලු දෙනා කරන කියන රැකී රක්ෂා ආදියත් දූ දරු මුණුබුරු මිණිබිරියන්ගේ අධ්‍යාපන කටයුතු ආදියත් සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා. තවදුරටත් ජීවිතයට සුවසේ පින් කරගෙන දහම් මග දියුණු කරගන්නට සියලු ආකාරයෙන් අවකාශ ලැබෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලාට, ශ්‍රද්ධා කාර්ය මණ්ඩලයේ හැමදෙනාට ඒ වගේම සුපින්වත් ඔබ සෑම සියලු දෙනාට මේ ගෞතම සසුනේම ධර්මාවබෝධයෙන් සැනසෙන්න වාසනාව ලැබේවා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=VnVSnuCJPtQ

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මාගේ වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු සද්ධර්ම දේශනාවට අද දවසේ විකාශන දායකත්වය, අනුග්‍රහය දරනු ලබන්නේ ශ්‍රද්ධා ධර්ම දාන සාමාජිකා පින්වත් අයේෂා සඳමාලි මල්ලවාරච්චි මහත්මිය විසින්. විශේෂයෙන් එතුමියගේ සොහොයුරිය වන වත්සලා ඉඳුනිල් මල්ලවාරච්චි මහත්මියගේ උපන්දිනය නිමිත්තෙන් ඇයටත් ඇයගේ පවුලේ සෑම සියලු දෙනාටත් නිදුක් නිරෝගී සුව සැලසේවා, නිරතුරුව කල්‍යාණ මිත්‍ර ඇසුරේ

දහමේ හැසිරෙන්න ලැබේවා කියන අදහසින් අද ධර්ම දානය සිද්ධ කරන්නෙ. මේ වැඩසටහන් මාලාවේදී රහතන් වහන්සේලා ගැනත් රහත් තෙරණින් වහන්සේලා ගැනත් දැන් බොහෝ කාලයක පටන් පින්වතුන්ලා ශ්‍රවණය කලා. අපගේ ගුරුදේවෝත්තම පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ විසින් මීට කාලයකට පෙර ථෙර ථෙරී ගාථා පොත් වහන්සේ පරිවර්තනය කලා ඒ අමා නිවන් දුටු රහතන් වහන්සේලා කියන නමින්. ඒ ථෙර ථෙරී ගාථා පොත් වහන්සේ ඇසුරු කරගෙන සැබෑම රහතන් වහන්සේලා වදාළ ගාථා අපි කාලයක් ඉගෙන ගත්තා. ඒ අමා නිවන් දුටු රහතන් වහන්සේලා කියන වැඩසටහනින්. පින්වතුනි අපි ගාථා ඉගෙන ගත්තා එක්දහස් දෙසිය අනූ එකක ප්‍රමාණයක්. සැබෑම රහතන් වහන්සේලාගේ ගාථා, එක්දහස් දෙසිය අනූ එකක් අපි ඉගෙනගත්තා. ඊළඟට අපි ආරම්භ කලේ ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණි වරු, ථෙරීගාථා කොටස. ථෙරී ගාථා අපි ඉගෙන ගත්තා පන්සිය විසි එකක්. නිකෙලෙස් හදමඬලවල් දරාගෙන වැඩ හිටපු මුණිවරුන්, මුණිවරියන් පාරිශුද්ධ හදවතක් ඇතිව වදාල ඒ අරුත්බර ගාථා, අපි කාලයක් තිස්සේ ඉගෙන ගත්තා. දැන් මේ වැඩසටහන් මාලාවේ අවසාන භාගය. අද අපි ඉගෙන ගන්නෙ අද අපි කතා කරන්නෙ මේ ලෝකයට රහතුන් බිහි කරපු ශාස්තෘන් වහන්සේ රහතන් වහන්සේලා ගැනම වදාළ එක කොටසක්. ධම්ම පදයේ අරහන්ත වග්ගය. රහතන් වහන්සේලා උදෙසා ධම්ම පදයේ වෙන් වූ වර්ගය. බුදුරජාණන් වහන්සේ එහි ගාථා වදාළා. ගතද්දිනො විසුකස්ස විප්පමුත්තස්ස සබ්බදි සබ්බ ගන්තපහීණස්ස පරිලාහෝන විජ්ජති - රහතන් වහන්සේ සසර ගමන අවසන් කරලායි ඉන්නෙ. ශෝක රහිතවයි ඉන්නෙ. හැමදේකින්ම මුළුමනින්ම නිදහස් වෙලයි ඉන්නෙ. හැම කෙලෙස් ගැටයක්ම නැති කරලයි ඉන්නෙ. ඒ නිසා උන්වහන්සේ තුළ කිසි කෙලෙස් දාහයක් නෑ, කෙලෙස් දාහයක් නැති රහතන් වහන්සේලා. කෙලෙස් දාහයක් නැති රහත් තෙරණින් වහන්සේලා, ජීවිත වල පින්වතුනේ කොච්චර කෙලෙස් දාහ හටගන්නවාද, කෙලෙස් පීඩා, කෙලෙස් සන්තාප, කෙලෙස් වලින් ගුටිකෑම කොච්චර මේ සසරේ තියෙනවාද, ඒ සියලු කතන්දර, ඒ සියලු දුක් ගිනි ඒ සියලු සන්තාප රහතන් වහන්සේලා තුළ නැත, රහත් මුණිවරියන් තුළ ද නැත. ඒ ඔක්කොගෙන්ම නිදහස් වුනා. සසර ගමන අවසන් කලා. දුක් විඳ විඳ යන ගමන ඒ උත්තමයො ඒ උත්තමාවියො අවසන් කලා. දැන් අපි ඉගෙනගත්තා කිසාගෝතමී අර්හත් උත්තමාවියගේ චරිතාපදානය. කිසාගෝතමී කියලා කියන්නෙ තමන්ගේ එකම සිඟිති දරුපැටියා මියපරලොව යෑම හේතුවෙන් විකල් වූ මවක්. තමන්ගේ ජීවිතයේ

තමන් ගොඩාක් සිහින තියාගෙන ගොඩාක් ප්‍රාර්ථනා තියාගෙන ඒ සිඟිති දරුපැටියාව ආරක්ෂා කළේ. පළවෙනි දරුවා. මේ තරුණ අම්මට තමන්ගේ දරු පැටියාගෙන් වෙන් වෙන්න සිද්ධ වුනා ඉතාම කුඩා වයසේදී, ඒ දරු පැටියා මල් කැකුළ වගේ මෝරාගෙන එද්දීම මියපරලොව ගියා. දරාගන්න බැරි සන්තාපයක් සංසාර ගමනේ පින්වතුනි මේ කිසාගෝතමීගේ ජීවිතේ යම් දුක් ගින්නක් හටගත්තාද ඒ වගේම දුක් ගිනි ගැන, සමහර විට ඊටත් වඩා දුක් ගිනි ගැන අදටත් අපිට අහන්න ලැබෙනවාද. ප්‍රිය විප්පයෝගයෙන් මහා සන්තාප විඳින මිනිස්සු ගැන අදත් අපිට අහන්න ලැබෙන් නැද්ද. අදත් කොච්චර ප්‍රශ්න තියෙනවාද, අද ප්‍රශ්න විතරයි. ඒ ප්‍රශ්න වලින් විසඳුමක් කරා යන ආකාරය අද හරී අඩුවෙන් දකින්න ලැබෙන්නෙ. ප්‍රශ්නයක් ඇතිවුනාට පස්සේ බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මයට හිත පැහැදිලා ධර්මය පැත්තට යොමුවීම හෝ හරි අඩුවෙන් දකින්න ලැබෙන්නෙ. කිසාගෝතමීයට එදා වාසනාව තිබුනා තමන්ගේ ජීවිතයට මහා සන්තාපය හටගත්ත වෙලාවේ භාග්‍යවතුන් වහන්සේව දැකගන්න. බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය අහලා ඇයත්, ගතද්දිනො විසූකස්ස විප්පමුත්තස්ස සබ්බති - හැම සංසාර දුකකින්ම නිදහස් වුනා. ශෝක රහිත වුනා. හැම කෙලෙස් ගැටයක්ම සම්පූර්ණයෙන්ම නැති කලා. ඒ නිසා ඒ උත්තමාවිය තුළ කිසි කෙලෙස් දාහයක් නෑ, කෙලෙස් දාහයක් නැති කිසාගෝතමී තෙරණී අන්ධ වනයේ රුක් සෙවණක වාඩි වෙලා හිටියා. වාඩිවෙලා ඉද්දි මෙතෙන්ට එනවා වසවර්ති මාරයා. මාරයා ආවෙ මනුස්ස වේශයකින්. මිනිස් වෙස් අරගෙන මාරයා පැමිණිලා ඇයට කියනවා ආ ඔය මොකද, දරුවන් මැරිච්චි කෙනෙක් වගේ මූණත් එල්ලගෙන තනියම ඉන්නෙ මොකද. මේ වනාන්තරය ඇතුලට ඇවිල්ලා මිනිහෙක්ව හොයන්න ආවද, එහෙම මහ ජරා කතාවක් කිව්වා මාරයා. මනුස්ස වේශයක් අරගෙන ඇවිල්ලා නිකං අවඥාවෙන් හෙලා දැකලා කතා කලා, කිසාගෝතමී රහත් තෙරණින් වහන්සේට. එතකොට කිසාගෝතමී රහත් තෙරණින් වහන්සේ, මේ කවරෙක්ද මේ, මේ වගේ වචනයක් මේ අන්ධ වනය ඇතුලට ඇවිල්ලා කියන කෙනා කව්ද. ඒ බලනකොටයි දැක්කේ මේ වසවර්ති මාරයා නොවැ. කිසාගෝතමී රහත් තෙරණින් වහන්සේ කියනවා, ඇත්තවශයෙන්ම මං දරුවන් මැරුණු කෙනෙක් තමයි. මිනිස්සුන්වත් ඒ පැත්තටම දීලයි තියෙන්නෙ. මං ශෝක කරන්නෑ. මං අඬන්නේත් නෑ. ඒ වගේම ආයුෂ්මත මං ඔහේට බයත් නෑ, මාරයා අඳුනගත්ත බව ඒ උත්තමාවි මාරයාට තේරුම් ගන්න හැරියා. ආයුෂ්මත ඔහේ මේ තනියම ඇවිල්ලා මෙතන මට වචන කිව්වට තනිපංගලමේ ඉන්න ස්ත්‍රියාවක් වුනාට මං

ඔහේට බය නෑ. දරුවො මැරුණු කෙනෙක් තමයි මං. මිනිස්සුන්වත් පුරුෂයන්වත් ඒ පැත්තේම දාලයි තියෙන්නෙ. හැබැයි මං ශෝක කරන කෙනෙක් නෙවෙයි. සාමාන්‍යයෙන් දරුවො මැරුණහම එතන තියෙන්නෙ ශෝකය. ස්වාමිපුරුෂයො මියගියාම එතන තියෙන්නෙ ශෝකය. ඊළඟට ඥාතීන් මියයනකොට, හිතමිත්‍රයො ඈත් වෙනකොට එතන තියෙන්නෙ ශෝකය. ශෝකයට එහා දෙයක් තිබේ කියලා දන්නෙ අපි බුදුරජාණන් වහන්සේගේ සද්ධර්මය ඇසූ නිසා. ඒ උත්තමාවිය ඒ දහම තුළ සැනසිච්ච් කෙනෙක්. හැමදෙයක් ගැනම තිබුනු තණ්හාව මං නැති කරලා දැම්මා. අවිද්‍යා අන්ධකාරය නම් වූ මහා මුලාව මං දුරු කරලා දැම්මා. මාරය ඔහේගේ සේනාව මං ජයගත්තා. මං දැන් ඉන්නෙ ආශ්‍රව රහිතවයි. බලන්න රහත්න වහන්සේලා, නිවුනු හදවත්. සන්සිඳුණු හදවත්, දුක්ගිනි සන්තාප නැති හදවත්. පින්වතුනි කිසාගෝතමී රහත් තෙරණින් වහන්සේ ඔහොම කියනකොට අන්ධ වනයේදී මාරයා නිරුත්තර වුනා. මාරයා එතනම නොපෙනී ගියා අයියෝ කිසාගෝතමී තෙරණී මාව දැනගත්තා නොවැ කියලා. ඒ තමයි උතුම් රහතන් වහන්සේලා, රහත් තෙරණින් වහන්සේලා. උය්‍යුංජන්ති සතිමන්තො නනිකේතේ රමන්තිතෙ කංසාව පල්ලලම්හිත්වා ඕකමෝකං ජහන්තිතෙ - ඒ රහතන් වහන්සේලා සතර සතිපට්ඨානයේ සිහිය පිහිටුවාගෙනමයි ඉන්නෙ. සමථ විදර්ශනාවේමයි නැවත නැවත යෙදෙන්නෙ. සිව්පසයට හිත ඇලෙන්නේ නෑ. ඒ නිසා උන්වහන්සේලා වැඩ සිටින හැමතැනක්ම අත්හැරලා බැඳීම් රහිත සිතින් පිටත් වෙලා යන්නෙ විල අත්හැරලා පියඹලා යන හංසයො වගේ. රහතන් වහන්සේලා ගැන රහතුන් ලෝකයට බිහි කරපු ශාස්තෘන් වහන්සේ වදාළේ එහෙමයි. උන්වහන්සේලාගේ සන්තාන කිසිවකටත් ග්‍රහණය වෙලා, කිසිවකටත් බැඳිලා නෑ. බඳවන්නත් බෑ. උන්වහන්සේලා උපමා කරන්න තියෙන්න හංසයන්ට. රහතන් වහන්සේලා හංසයො වගේ. රහත් තෙරණින් වහන්සේලා හංසරාජිණියො වගේ. කිසිවකට ග්‍රහණය වෙන් නෑ විල අත්හැර යන හංසයො හංසරාජිණියො අපේක්ෂා රහිත සිතින්ම විල අත්හැර යනවා. අන්න ඒ වගේමයි රහතන් වහන්සේලාත් යම් තැනක වැඩ ඉඳලා තවත් තැනකට යන්නෙ අපේක්ෂා රහිත සිතින්. අත්හල සිතින්. යේසං සන්නිචයො නත්ථි යේ පරිඤ්ඤාත භෝජනා සුඤ්ඤතො අනිමිත්තොච විමුක්කො යස්ස ගෝචරෝ ආකාසේව සකුන්තානං ගතිතේසං දුරන්නයා - ඒ රහතන් වහන්සේලා තුළ සිව්පසය රැස් කිරීමක් නෑ. වළඳන දානයේ යථාර්තය අන්වහන්සේලා දන්නවා. උන්වහන්සේලාට ශූන්‍යතා සමාපත්තියත්, අනිමිත්ත සමාපත්තියත්, නිවනත්

අරමුණු වෙලයි තියෙන්නෙ. අහසේ පියඹා ගිය කුරුල්ලන්ගේ ගමන් මග කාටවත් දකින්න බෑ. ඒ වගේම ඒ රහතුන් වැඩිය මගත් කාටවත් දකින්න පුලුවන් කමක් නෑ, කාටවත් දැකිය නොහැකි මගක් තියෙන්නෙ රහතුන්ට පමණි. අනික් සත්වයින්ගේ ගමන් මගේ කෙලෙස් සටහන් තිබේ. අනිත් සියලු සත්වයන්ගේ ගමන් මගේ කෙලෙස් සටහන් තිබේ. රහතන් වහන්සේලා වැඩිය මග කිසිවෙකුටවත් දැකගත නොහැක. දැකගත නොහැක්කේ උන්වහන්සේලා වඩිනා මගේ කිසිඳු කෙලෙස් සටහනක් නැති නිසා. හරි සුන්දරයි පින්වතුනේ. මේ සවන් පත් වලින් එබඳු ආශ්චයර්‍යවත් මුණිවරු ගැන මුණිවරියෝ ගැන කාලයක් තිස්සේ අපිට ශ්‍රවණය කරන්න ලැබුනා. අපිට හිත් පහදවගන්න ලැබුනා. උතුම් බුද්ධ ශාසනය මුණ ගැහිච්චි නිසා මේ ලෝකයේ කෙලෙස් වලින් ගුටි කන මිනිස්සුන්ගේ කෙලෙස් සහගත කතා වෙනුවට, කෙලෙස් සහගත අදහස් වෙනුවට අපිට අහන්න වාසනාව ලැබුනා. අපිට ඉගෙන ගන්න වාසනාව ලැබුනා කෙලෙස් නැසූ මුණිවරු, මුණිවරයො ගැන. යස්සාසවා පරික්ඛීනා අහාරේච අනිස්සිතො සුඤ්ඤතො අනිමිත්තොච විමොක්කො යස්ස ගෝචරො ආකාසේව සකුන්තානං වදංතස්ස දුරන්නයං - ඒ රහතන් වහන්සේලා සියලු කෙලෙස් නැති කරලයි ඉන්නෙ. වළඳන දානය ගැන සිතේ ඇල්මක් නෑ, සුඤ්ඤත සමාපත්තියත්, අනිමිත්ත සමාපත්තියත්, නිවනත් තමයි උන් වහන්සේලාට අරමුණු වෙලා තියෙන්නෙ. අහසේ පියඹා ගිය කුරුල්ලන්ගේ පා සටහන් කාටවත් දැකගන්න බෑ. අන්න ඒ වගේමයි නිවනට වඩින රහතුන්ගේ පියවර සටහන් කාටවත් දැකගන්න පුලුවන්කමක් නෑ. හරියට අහසේ කුරුල්ලෙක් පියාසලා ගියා වගේ. සාමාන්‍ය සතෙක් පොළොවේ ඇවිදගෙන ගියොත් පොළොවේ පියවර සටහන් හිටිනවා. වැල්ලක ඇවිදගෙන ගියොත් වැල්ලේ පියවර සටහන් හිටිනවා. හැබැයි කුරුල්ලො අහසේ පියාඹා ගියාට කුරුල්ලන්ගේ සටහන් අහසේ නැත. අන්න ඔය වගේ කියනවා සාමාන්‍ය සත්වයා අතරත් රහතන් වහන්සේ අතරත් වෙනස තේරුම් ගත යුත්තේ. රහතන් වහන්සේ වඩිනා මග කිසිවෙකුටවත් දැකගත නොහැක්කේය. ඒකට හේතුව අනික් අය යන මාවත කෙලෙස් වලින් තමයි බලන්න තියෙන්නෙ. ඇතැම්හු කෙලෙස් සහගතව වාසය කරලා ලාමක කෙලෙස් වලින් යුක්තවෙලා ඒ හේතු කරගෙන සතර අපායේ යනවා. ඇතැමෙක් මේ කෙලෙස් සහගත සසර ගමනේ, කෙලෙස් වලින් පිරුණු අකුසල් කුසල් මේවාත් එක්ක ගැටගැහිච්චි සාංසාරික ගමන, සමහරු කලාතුරකින් පිනක් දහමක් කරගෙන කුසලයක් කරගෙන සුගති ජීවිතේක යනවා, ඒකෙ ඉතින් සටහන තියෙනවා. හැබැයි

රහතන් වහන්සේලා වැඩම කලේ මේ ලෝකයේ තියෙන ශ්‍රේෂ්ටම උතුම්ම මාර්ගයේ. ඒ මාර්ගය තමයි ආර්ය අෂ්ටාංගික මාර්ගය, ඒ මගේ වැඩලා නිවනට පත්වුනාට පස්සෙ ඒ රහතන් වහන්සේගේ වෙන ගමනක්, ඒ රහතන් වහන්සේ අරමුණු කරන දෙයක්, මේ මොකුත් ගැන කිසි කෙනෙකුට හොයන්න බෑ. ඒ තමයි සැබෑම රහතන් වහන්සෙලාගේ ස්වභාවය කිසිවෙකුටවත් සටහනක් සොයාගන්න බැරි සුන්දර ගමනක්. යස්සින්ද්‍රියානි සමතං ගතානි අස්සා යතා සාරතිනා සුදන්තා පහීන මානස්ස අනාසවස්ස දේවාපිතස්ස පිහයංති තාදිනො - දක්ෂ රියදුරෙක් විසින් ඉතා හොඳට හීලෑ කරපු අශ්වයන් වගේ. යම් කෙනෙක් තමන්ගේ ඉන්ද්‍රියන් හොඳට හීලෑ කරගත්තා නම් මාන්නය නැති කරපු, කෙලෙස් නැති කරපු, අකම්පිත සිත් ඇති ඒ රහතන් වහන්සෙට දෙවියන් පවා කැමැතියි. දෙවිවරුත් ආසා කරන්නෙ දෙවිවරුත් පසුපසින් යන්නෙ දෙවිවරුත් නිතර වැඳ නමස්කාර කර කර තමන්ගේ ජීවිතයට පින් පුරාගන්නෙ රහතුන්ව මුල්කරගෙනයි. සැබෑ රහතුන් ලෝකයේ වැඩ ඉන්නකොට ඒ රහතන් වහන්සේලා පස්සේ දෙවිවරු හැමතිස්සේම ගමන් කලා. ඒ රහතන් වහන්සේලාගේ හිතාගන්න බැරි අසිරිමත් ජීවිතය දෙවිවරු හදවතින්ම වින්දා. දෙවියෝ පවා ප්‍රිය කරන්නෙ සැබෑ රහතුන්ට, සැබෑ රහත් මුණිවරියන්ට. ඒකට හේතුව දමනය කරගන්න දුෂ්කර වූ ඉන්ද්‍රියන් හය, උන්වහන්සේලා දමනය කරගන්න දක්ෂ වුනා. ඇස, කණ, නාසය, දිව, කය, මනස කියන මේ හය. මේ හය දමනය කරනවා කියන්නෙ ලේසි දෙයක් නෙවෙයි. ඇත්තටම කැලෑ සතෙක්ව දමනය කරනවා වගේ. අශ්වයා කියන්නෙ කැලෑ සතෙක්. ඒ කැලෑ සතාව ප්‍රයෝජනයට ගන්න කැමැති අය, උගෙන් වැඩ ගන්න කැමැති අය උගව දුෂ්කර ලෙස අල්ලනවා. අල්ලලා උගේ කැලෑ ගති ඔක්කොම ඇරලා උගව හීලෑ කරගන්නවා. කොච්චර හීලෑ කරගන්නවාද කියන්නෙ උගව රථයේ බැන්දට පස්සෙ කියන තැනකට උගව හසුරුවාගන්න පුලුවන්. අන්න ඒ වගේ අශ්වයෝ දමනය කරන අය මේ ලෝකෙ ඉන්නවා. ඔන්න ඔය වගේ කෙනෙක් ඇස දමනය කලා නම් මේ ඇස කියන එක ඔය විදියට මෙහෙයවාගත්තා නම්, කණ එහෙම ගත්තා නම්, නාසය, දිව, කය, මනස කියන මේ හය අශ්වයෝ හය දෙනෙක්, හොඳට හීලෑ වෙච්චි මෙල්ලවෙච්චි අශ්වයො හය දෙනෙක් වගේ දමනය කරගත්තා නම් අසිරිමත් නැද්ද. ඒක අසිරිමත් කියලා තේරෙන්නෙ තමන් තමන්ගේ ඉන්ද්‍රිය පැවැත්ම ගැන බලපුවාම. අපිට පින්වතුනේ පුලුවන්ද අඩුම ගානෙ අපිට ඕන විදියට හිතුවිල්ලක්වත් එක දිගට හිත හිත ඉන්න. අපිට ඕන විදියට අපි කැමැති එක හිතුවිල්ලක අපිට ඉන්න බෑ, දමනයෙන් තොරයි.

රහතන් වහන්සේලාගේ අසිරිමත් බව තේරෙන්නෙ එහෙම ගලපලා බලනකොට. උන්වහන්සේලා කොච්චර දුෂ්කර දෙයක්ද කලේ. හරියට දක්ෂ රියදුරෙක් හොඳට අශ්වයො හීලෑ කරගත්තා වගේ, ඇස, කණ, නාසය, දිව, කය, මනස කියන මේ ආයතන හය, එහෙම නැත්නම් මේ ලෝකය උන්වහන්සේලා තමන්ගේ වසඟයට ගත්තා. ඉතින් එබඳු ආශ්චයර්වත් මුණිවරුන්, මුණිවරියන්ට දෙවියෝ ප්‍රිය කරන්නෙ නැතිද. දෙවියොත් එබඳු උතුමන්ටයි ප්‍රිය. පඨවි සමෝ වො නිරුජ්ඣති ඉන්දකීලෝප මො තාදි සුබ්බතො රහදෝව අපේතකද්දමො සංසාරා නභවන්ති තාදිනො - රහතන් වහන්සේ කා එක්කවත් විරුද්ධ වෙන්නෙ නෑ. මහපොළොව වගේ. අටලෝ දහමින් කම්පා වෙන්නෙ නෑ, ඉන්ද්‍රඛීලයක් වගේ. යහපත් සීලයකින් යුක්තයි. මඩ නැති විලක් වගේ. එබඳු රහතන් වහන්සේ ට සංසාර ගමනක් කොයින්ද. ඔය තමයි රහතන් වහන්සේ නමකගේ සුන්දර ජීවිතය. උන්වහන්සේ කා එක්කවත් විරුද්ධ වෙන්නෙ නෑ. ලෝකයත් එක්ක වාද විවාද කරගන්න අර්බුද හදාගන්න ගැටෙන්න මේ කිසිවකට රහතන් වහන්සේ යන්නෙ නෑ. රහතන් වහන්සේ ඒවාත් එක්ක එකතු වෙන්නෙ නෑ, සාමාන්‍ය ලෝකයා පින්වතුනි ඒවාත් එක්කමනෙ එකතු වෙවී මේ මහා වද, මහා දුක් ගිනි විඳ විඳ ඉන්නෙ. අර්හත්වයට පත්වෙච්චි, සැබෑවටම අර්හත්වයට පත්වෙච්චි මුණිවරයා, මුණිවරිය මේවාත් එක්ක එකතු වෙන්න යන්නෙ නෑ. උන්වහන්සේ හැමදේකින්ම නිදහස් වෙලා, හරියට මහපොළොව වගේ. මහපොළොවට ඇතැම්හු පිරිසිදු දේවල් දානවා. ඇතැම්හු අපිරිසිදු දේවල් දානවා. මහපොළොවට සුවඳ වර්ගත් දානවා. මහපොළොවට ගන්දස්තාර දේවලුත් දානවා. මහපොළොවට ඉතා මිහිරි වූ දේත් දානවා, පිළිකුල් සහගත වූ දේවලුත් දානවා. මේ මොනවා දැම්මත් මහපොළොව විරුද්ධ වෙන් නෑ. මහපොළොව ඒක මහා සතුටකින් පිළිගන්නෙත් නෑ. ඒ දෙකම ඉස්සරහ මහපොළොව නොසැලී ඉන්නෙ යම් සේද, රහතන් වහන්සේ ගැනද එසේ දැකිය යුතුය, මහපොළොව වගේ. සංඝං සරණං ගච්ඡාමි කියලා අපි මේ ජීවිතේ සරණ ගියපු ඒ සඟරුවන. ඒ සඟරුවනේ ඉදිරියෙන්ම වැඩ ඉන්නෙ රහතන් වහන්සේලා, රහත් තෙරණින් වහන්සේලා බලන් අපි සරණ ගියෙ කොයි තරම් අසිරිමත් පිරිසක් ද. උන්වහන්සේලා හරියට මහපොළොව වගේ. විරුද්ධ වෙන් නෑ, ඉන්දකීලූ පමොතාදී පතො - උන්වහන්සේලා අටලෝ දහමින් කම්පා නොවෙන ඉන්ද්‍රකීල වගේ. ඉන්ද්‍රකීලය කියලා කියන්නෙ පින්වතුනි ඒ කාලයේ රාජධානි වල රජවරු සුවිශාලෙට රාජධානි හදාගත්තට පස්සෙ රාජධානිය මධ්‍යයේ

පිහිටවනවා හොඳ ශක්තිමත් කණුවක්. ඒක බොහෝ වෙලාවට ගලින් කරන්නෙ. ගල් කණුවක් සිටුවනවා උසට. ඒ ගල් කණුවට තමයි කියන්නෙ ඉන්ද්‍රකීලය. ඉන්ද්‍රකීලය මත්තට වෙන්න තමයි රජ්ජුරුවන්ගේ කොඩි ඔසවන්නෙ. ඈතට පේනවා එනකොට. රජුන්ගේ කොඩිය ඔසවා තියෙන විදිය. දුර ඉඳලා වුනත් අඳුරගන්න පුලුවන් මේ අසවල් රජතුමාගෙ රාජධානිය.ඔය ඉන්ද්‍රකීලය කියන එක සුළඟකින් සොලවන්න පුලුවන්. වෙනයම් හෝ දේකින් ලේසියෙන් සොළවන්න පුලුවන් එකක් නෙවෙයි, මනාව පිහිටලා තියෙනවා, දසමෙට පිහිටලා තියෙනවා. අන්න ඒ වගේ තමයි රහතන් වහන්සේලාගේ ජීවිත අටලෝ දහමින් කම්පා වෙන්නෙ නැත. ලාභ පැමිණියද, කම්පිත නොවේ. ලාභ අලාභ බවට පෙරලුනද කම්පිත නොවේ. කිසි කම්පාවක් නෑ, ලාභය ඉස්සරහා මුසපත්වීමකුත් නෑ, අලාභ ඉස්සරහා කඩාවැටීමකුත් නෑ, නින්දා කරද්දි කඩාවැටීමකුත් නෑ, ප්‍රශංසා කරද්දි ඉදිමීමකුත් නෑ, අකම්පිතයි. සැප ලබෙන කොට මුසපත් වීමක් නෑ, දුක් කරදර එනකොට ඒකෙන් කඩාගෙන වැටීමක් නෑ, අකම්පිතයි. කම්පා නොවෙන සිත. ඊළඟට යසපිරිවර බොහෝ සේ ඉද්දි ඒ පරිවාර සම්පත්තිය තුල ඉදිමීමක් මුසපත් වීමක් නෑ. පරිවාර සම්පත්තිය අහිමි වී යද්දී ඒකෙන් මහා කණගාටුවට පත්වීමකුත් ඇත්තෙ නෑ. ඒ තමයි රහතන් වහන්සේලාගේ ජීවිතය. උන්වහන්සේලා යහපත් වූ සීලයකින් යුක්තයි, හරියට ඒ ගැන කියන්න තියෙන්නෙ මඩ නැති විලක් වගේ. විලක මඩ නැත්නම් ඒ විල කැළඹෙන්නේ අපිරිසිදු වෙන්නේ නැත. ඒ විල කළඹන්නට අපිරිසිදු කරන්නටද බැරිය. සාමාන්‍යයෙන් මඩ තියෙන විල නිකං තියෙනකොට නම් මඩ යටට බැහැලා පෑදිලා තියෙන්න පුලුවන්. හැබැයි ඒ පෑදිච්චි විල පොඩි උපක්‍රමයකින් බොර කරන්න පුලුවන්. හේතුව ඇතුලේ මඩ තියෙනවා. මඩ නැත්නම් යම් විලක ඒ විල කැළඹීමට නිමිත්තක් නැත. ඒ වගේ රහතන් වහන්සේලාගේ කායික ක්‍රියා, පිරිසිදුයි, අපිරිසිදු කරන්න බැරි විදියට පිරිසිදුයි. රහතන් වහන්සේලාගේ වචන පිරිසිදුයි, අපිරිසිදු කරන්න බැරි විදියට පිරිසිදුයි. රහතන් වහන්සේලාගේ ආජීවය, ජීවිතය ගත කරන ස්වභාවය අතිශයින්ම පිරිසිදුයි. අපිරිසිදු කරන්න බැරි විදියට පිරිසිදුයි. අන්න එබඳු රහතන් වහන්සේලාට එබඳු ජීවිත ඇති උතුමන්ට මේ දුක් විඳිමින් යන සංසාර ගමනක් නම් ඇත්තේම නැත. එහෙම වදාළේ කවුද, මේ ලෝකයට රහතුන් බිහි කල ආශ්චර්‍යවත් ශාස්තෘන් වහන්සේ අපි සරණගියපු අපගේ බුදුරජාණන් වහන්සේ. සන්තංතස්ස මනං හෝති සන්තාවාචා ච කම්ම ච සම්ම දඤ්ඤා විමුත්තස්ස උපසන්තස්ස තාදිනො - රහතන් වහන්සේට තියෙන්නෙ නිවී

සැනසී ගිය හදවතක්. උන්වහන්සේගේ වචනත් නිවිලා තියෙන්නෙ. උන්වහන්සේගේ කයත් නිවිලා තියෙන්නෙ. අවබෝධයෙන්ම දුකින් නිදහස් වුනු උපශාන්ත සිත් ඇති රහතන් වහන්සේලා එහෙම තමයි. රහතන් වහන්සේගේ ස්වභාවය බුදුරජාණන් වහන්සේ මේ ගාථා වදාළේ හරිම අනුවේදනීය පුවතක්. සැබෑ රහතන් වහන්සේලා ගැන හිත පහදවාගන්න අසිරිමත් පුවතක්. කොසඹෑ නුවර හිටියා තිස්ස කියලා වයෝවෘද්ධ එක්තරා භික්ෂුවක්. උන්වහන්සේ බොහොම ගුණ සම්පන්නයි, සීල සම්පන්නයි. ඇවතුම් පැවතුම් හරි සංවරයි, උන්වහන්සේ වයෝවෘද්ධ වෙලා උන්වහන්සේට තව කෙනෙකුගේ උපකාර ඕන වෙන කාලෙ වෙනකොට එක උපාසකයෙක් තමන්ගේ ආදරණීය පුතාව උන්වහන්සේ ළඟ පැවිදි කලා. මේ කොසඹෑ නුවර තිස්ස තෙරුන් වහන්සේට ඇප උපස්ථාන කරගෙන ඉන්න. මේ පැවිදි කරපු පින්වන්ත පුතාගේ වයස අවුරුදු හතක්. පින්වතුනි ඒ කාලෙ පින්වන්තයන්ගේ යුගයක්. සංසාර ගමනක බොහෝ කාලයක් පින් පුරාගෙන පැමිණිලා අමෘත නිවන සාක්ෂාත් කරන්න තරම් මහා පින් බලයක් ඇති උත්තමයො උත්තමාවියො හරි හරියට ඒ කාලෙ වැඩ හිටියා. ඒ නිසා හිතාගන්න බැරි ප්‍රවෘත්ති අපිට ඒ බුදුරජාණන් වහන්සේ වැඩ හිටපු කාලය ගැන අහනකොට ශ්‍රවණය කරන්න ලැබෙනවා. අවුරුදු හතෙන්නෙ මේ සිඟිති දරුපැටියා පැවිදි කරන්නෙ. පැවිදි කරන්න මුලින්ම කෙස් රොද කපනකොට මේ කොසඹෑනුවර තිස්ස තෙරුන් ධර්මය කියලා දුන්නා, දැන් මේ ලබන පැවිද්ද මොන වගේ එකක්ද කියලා. මේ ජීවිතේ ස්වභාවය කියලා දුන්නා. ශරීර ස්වභාවය ගැන කියලා දුන්නා. ඊටපස්සෙ තිස්ස තෙරුන් වහන්සේ කියනවා පැවිද්දට පත්වුනාට පස්සෙ හරී ප්‍රයෝජන එකක්, අසුභ භාවනාව. රාගයෙන් හිත ඇවිස්සෙන්නේ නැතිව තියාගන්න හරි උපකාරයි අසුභ භාවනාව. යළි ලාමක වූ කාමයට නොවැටී ඉන්න හරි උපකාරයි අසුභ භාවනාව. ඒ නිසා මේ අසුභ භාවනාව හොඳට හුරු කරන්න ඕන කියලා අසුභ භාවනාව ගැනත් කියලා දීලා, මේ අවුරුදු හතේ සිඟිති දරු පැටියාගේ කෙස් රොද කපන්න පටන් ගත්තා. ඒ කෙස් කපනකොට පළවෙනි කෙස් රොද කපලා අතට දෙනවා. මේක සිහිකරන්න මේක පිළිකුලයි කියලා. මේ කෙස් පිළිකුලයි කෙස් විතරක් නෙවෙයි ලොම් පිළිකුලයි, නියපොතු පිළිකුලයි, දත් පිළිකුලයි, සම පිළිකුලයි, මේ පහේ පිළිකුල සිහි කරන්න. මේකට කියනවා තචපඤ්චක කර්මස්ථාන. මේක දුන්නා. පැවිදි වීම පිණිස කෙස් රොද කපන වෙලාවේ, කෙස් ටික බාන වෙලාවේ මේ තචපඤ්චක කර්මස්ථානය දීලා කෙස් බාලා ඉවරවෙනකොට මේ අවුරුදු හතේ සිඟිති ඉතාම පුංචි වයසේ ඉන්න දරු

පැටියා කෙස් බාලා ඉවරවෙනකොට රහතන් වහන්සේ නමක් බවට පත්වුනා. අසිරිමත්. යම් ඒ පින් රැස් කිරීමක් ඇත්ද, ඒ පින් රැස් කිරීමයි අසිරිමත්. සංසාර ගමනේ රැස් කරපු පිනක් පින්වතුනේ ඒ. එච්චර කුඩා වයසේදී මේ සා අසිරිමත් වූ මේ සා සුබදායක වූ අමෘත නිවන සාක්ෂාත් කරන්න තරම්, දැන් ඇත්තටම බුද්ධ ශාසනේ ගත්තොත් එහෙම අවුරුදු හතේ රහතන් වහන්සේලා කොච්චර වැඩ හිටියාද. අවුරුදු හත කියන ඉතාම පුංචි වයසේදීම අර්හත්වය පසක් කලා. දැන් සිවුරු පොරවනකොටම රහතන් වහන්සේ නමක්. මේ කොසඹෑ නුවර තිස්ස තෙරුන් වහන්සේ වැඩිහිටි ස්වාමීන්වහන්සේට ඒ ගැන තේරුමක් නෑ, මේ වැඩ ඉන්නෙ රහතන් වහන්සේ නමක් ය කියලා. ඉතින් සාමාන්‍ය විදියට කටයුතු කරගෙන හිටියා. හිතාගන්න බැරි තරම් අසිරිමත් මේ පොඩිනමගේ කටයුතු කිරීම. උන්වහන්සේ හොඳ තේරුමක් තියෙන කෙනෙක් විදියට තමයි හැමකටයුත්තක්ම කරන්නෙ. කොසඹෑනුවර තිස්ස තෙරුන් වහන්සේ හිතාගෙන ඉන්න ඇති මහණ කරනකොටත් දැන් මේ අවුරුදු හතේ එක්කෙනෙක් මහණ කරගෙන මටත් කරදරේ වෙයිද දන්නෑ කියලා. ඉතින් එහෙම මොකුත් නෑ. උන්වහන්සේ බොහෝම ලස්සනට වැඩකටයුතු ටික කරගෙන යනවා. හොඳ සිහිනුවණින් ඉන්න බවත් තේරෙනවා. කවදාවත් ගෙදර යන්න ඕන කියලා අඬන්නෙ නෑ. එහෙම කරදර මොකුත් නෑ, ඉතින් ටික දවසක් ගතවෙනකොට හරී ප්‍රසාදයක් හටගත්තා. ආචාර්‍යයන් වහන්සේ කොසඹෑනුවර තිස්ස තෙරුන් වහන්සේ මේ පොඩිනමට කතා කරලා කියනවා, පොඩි නම ඔයා තාම බුදුරජාණන් වහන්සේව දැක්කෙ නැනෙ. මොකද කියන්නෙ අපි බුදුරජාණන් වහන්සේව දකින්න වැඩම කරමුද කියලා ඇහුවා. මේ පුංචි රහතන් වහන්සේ කියනවා අනේ ස්වාමීනී අපට ශාන්තිය ලබාදුන්නු, අපට සැනසිල්ල ලබාදුන්න ඒ ශාස්තෘන් වහන්සේ බැහැදකින්න යනවා කියන වචනෙත් සැපයි. ස්වාමීනී ඔබවහන්සේට පහසු වෙලාවක අපි පිටත් වෙමු කිව්වා. ඉතින් දැන් මේ කොසඹෑනුවර තිස්ස තෙරුන් වහන්සේට තියෙන උවමනාව මේ පොඩිනම ගැන බුදුරජාණන් වහන්සේට කියන්න. ඊළඟ දවසේම පිටත් වුනා. දුර ගෙවාගනෙ යන්න ඕන. භාග්‍යවතුන් වහන්සේ වැඩ හිටියේ සැවැත්නුවර, භාග්‍යවතුන් වහන්සේ බැහැදැකීම පිණිස දැන් මේ වඩින ගමන, පයින් වඩින ගමනනෙ ටිකක් දුෂ්කරයි, දවස් කීපයක් යන්න තියෙනවා. මේ යන ගමන් දින කීපයක් රාත්‍රියේ එකම කුටියක නවතින්න සිද්ධ වුනා. රෑ නැවතීම පිණිස එකම කුටියක්, එකම ආවාසයක් උන්වහන්සේලාට පාවිච්චි කරන්න සිද්ධ වුනා දැන් මේ පොඩි නම සාමණේර. තාම අවුරුදු හතයිනෙ. කොසඹෑ

නුවර තිස්ස තෙරුන් කියන්නේ උපසම්පදා භික්ෂුවක්. සාමාන්‍යයෙන් උපසම්පදා භික්ෂුවක් එක්ක සාමණේර නමකට, එහෙම නැත්නම් අනුපසම්පන්න කෙනෙකුට පැය දෙකකට වඩා එක දිගට ඉන්න බෑ. ඉතින් එතකොට සාමාන්‍යයෙන් එහෙම ඉන්නසිද්ධ වුනොත් කරන්නෙ අරුණෝදයට පෙර දවසක් ගතවෙන්න කලින් අනුපසම්පන්න කෙනා ආවාසයෙන් එළියට වැඩම කරන්න ඕන, නැත්නම් ශික්ෂාඡේදනයක්, සිල්පද වලට හානිවීමක් සිද්ධ වෙනවා, උපසම්පදා භික්ෂුවගේ. දැන් ඔන්න දවස් දෙකක් ආවාසෙ වැඩහිටියා. තුන්වෙනි දවසේ එක රැයක් ගත කරන්න සිද්ධ වුනා. ඒ රැයේ දැන් ආචාර්‍යයන් වහන්සේ කෝසම්බියවාසි තිස්ස තෙරුන් වහන්සේ සැතපුනේ හෙට පාන්දර ජාමයේම පොඩිනමට කතා කරලා කුටියෙන් එළියට යන්න කියන්න ඕන. එහෙම හිතාගෙන තමයි සැතපුනේ. පොඩිනම කල්පනා කලේ. දැන් මේ පොඩිනම කියන්නෙ රහතන් වහන්සේ, රහතන් වහන්සේ කල්පනා කලේ ආචාර්‍යයන් වහන්සේට ගමන් මහන්සියටත් එක්ක නින්ද යන්න පුලුවන්. මමත් සැතපුනොත් සමහර විට මටත් නින්ද යන්න පුලුවන්. අපි දෙනම වහන්සේලාම අවදි වුනේ නැත්නම් මගේ ආචාර්‍යයන් වහන්සේගේ ශික්ෂාපදයකට හානියක්, කිලුටක් සිද්ධ වෙනවා. මගේ ආචාර්‍යයන් වහන්සේ නිසා තමයි මට පැවිද්ද ලැබුනේ. මම ආචාර්‍යයන් වහන්සේගේ උතුම් සීලය උතුම් අයුරින්ම ආරක්ෂා කරන්න ඕන. ඒ නිසා මං සැතපෙන් නෑ කියලා පොඩි නම් ආචාර්‍යයන් වහන්සේගේ ඇඳ ළඟටම වෙන්න පළඟ බැඳගෙන වාඩිවෙලා භාවනා කලා. ආචාර්‍යයන් වහන්සෙ පාන්දර ජාමෙ වෙන්න ඇහැරුනා. ඇහැරිච්ච ගමන් කල්පනා වුනේ මේ පොඩි නම දැන් තාම සැතපිලා ඇති. නැගිට්ටවන්න ඕන කියලා වටාපත අරගෙන එතකොට ඒ කාලෙ වටාපත පාවිච්චි වුනේ ග්‍රීස්ම කාලෙට පවන් සලාගන්නනෙ. එතකොට මේ වටාපත අරගෙන තමයි සියලු ගමන් බිමන් යන්නෙ. මේ වටාපත අතට අරගෙන වටාපතේ මිටෙන් පොඩ්ඩක් පොඩි නමට තට්ටු කරන්නම් කියලා ආචාර්‍යයන් වහන්සේ කාමරේ පහන් ආලෝකය දල්වන්නේත් නැතිවම මේ වටාපත දික් කලා. වටාපතේ මිට පැත්ත දික් කරනකොට මේ මිට වාඩිවෙලා හිටපු පොඩිනමගේ ඇහේ වැදුනා. ඇහැ ඇතුලටම ගියා. ඇහැ සම්පූර්ණයෙන් අන්ධ වුනා. ඇහැ තුවාල වෙලා ලේ ගලන්න බලවත් වේදනාවක් හටගෙනත් බලවත් තුවාලයක් සිද්ධ වෙලත් කෙඳිරියක්වත් නැතිව මේ පුංචි රහතන් වහන්සේ එහෙමයි ස්වාමීනී කියලා එළියට වැඩම කලා. උදේ කාලයේ තමයි ආචාර්‍යයන් වහන්සේ දකින්නෙ. පොඩිනමට මෙහෙම තුවාලයක් වෙලා. පොඩිනම හොඳටම දරුණු තුවාලයකට

ලක්වෙලා කියලා. හැබැයි මේ පොඩි නම ඉඟියකින්වත් ඒ රාත්‍රියේ එහෙම එකක් සිද්ධ වුනා කියලා තේරුම් කලේ නෑ. නැත්නම් සාමාන්‍යයෙන් අවුරුදු හතේ පොඩි කෙනෙකුට එහෙම වුනා නම් එයා කෑගහලා අඬන්න පටන් ගන්නවානෙ. ඒ මොකුත් නෑ. හිතාගන්න බැරි විස්මයක්. අවසානයේ බුදුරජාණන් වහන්සේ ළඟට මේ අවුරුදු හතෙන් පැවිදි වෙච්චි මහණ වෙලා අවුරුදු හතෙන්ම අර්හත්වයට පත්වෙච්චි රහතන් වහන්සේත් ආචාර්‍යයන් වහන්සේත් දෙන්නා යනවා. ගිහිල්ලා භාග්‍යවතුන්වහන්සේ ඉස්සරහා මේ ආචාර්‍යයන් වහන්සේ, කොසඹෑ නුවර තිස්ස තෙරුන් වහන්සේ කඳුළු සළ සල කිව්වෙ අනේ ස්වාමීනී මගදි මං නිසා මෙහෙම අකරතැබ්බයකුත් සිද්ධ වුනා, ඒත් මේ පොඩිනමගේ හිතේ කිසි කැළඹිල්ලක් නෑ, ඉරියව්වක වෙනසක් නෑ. මේ වෙච්චි සිදුවීම ගැන මම සමාව ඉල්ලනකොටත් පොඩි නම මගෙත් එක්ක කිව්වෙ ස්වාමීනී මේ සංසාරෙ ස්වභාවයනෙ. ඒකනෙ සසරෙන් නිදහස් වීම පිණිස බුදුරජාණන් වහන්සේ අපිට දහම් දෙසුවේ කියලා. අන්න ඒ වෙලාවේ භාග්‍යවතුන් වහන්සේ මේ ගාථාව වදාළේ. ෂන්තං තස්ස මනං හෝති - රහතුන්ගේ සිත සංසිඳිච්චි එකක්. සන්තා වාචා - ඒ වචන සංසිඳිලා. කම්ම ච - ඒ ක්‍රියාත් සංසිඳිලා. කම්මදඤ්ඤා විමුත්තස්ස උපසන්තස්ස තාදිනො - අටලෝ දහමට කම්පා නොවන තාදි ගුණ ඇති ඒ රහතන් වහන්සේලා උපශාන්ත සිතින් ඉන්නෙ හැමදේකින්ම නිදහස් වෙලා. අසිරිමත් ඒ බුදුසසුන. භාග්‍යවතුන් වහන්සේ වදාළා රහතන් වහන්සේලාගේ ස්වභාවය තවදුරටත්. අස්සද්දො අකතඤ්ඤොාච සන්දිච්චයේදො නරෝ තතාවකාසු වන්තාසු සවේ උත්තම පූරිසො - යම් කෙනෙක් ඇදහීම ඉක්මවා ගිහින් අකත නම් වූ නිවන පිළිබඳ ප්‍රත්‍යක්ෂ අවබෝධයට පැමිණුනා නම් ඇදහීම ඉක්මවා ගියා කියලා කියන්නෙ අවබෝධයකට පත්වුනා. ඇදහීම කියලා කියන්නෙ මේක ඇත්ත කියලා පිළිඅරගැනීම. එහෙම නැත්නම් ඒකට අපිට කියන්න පුලුවන් ශ්‍රද්ධාව කියලා. ඒක ඉක්මවා ගිහිල්ලා අකත නම් වූ නිවන පිළිබඳව ප්‍රත්‍යක්ෂ අවබෝධයට පැමිණුනා නම් පටිච්ච සමුප්පාදයේ පුරුක් කඩලා දැම්මා නම් උපදින්න තියෙන හැම අවස්ථාවක්ම නැති කලා නම් කෙලෙස් වමනෙ දැම්මා නම් ඇත්තවශයෙන්ම ඔහු උතුම් මනුස්සයෙක්. උතුම් මනුස්ස - උතුම් භාවයට පත්වුනා. එහෙම නැත්නම් බ්‍රාහ්මණ කියලා අපිට කියන්න තියෙන්නෙ රහතන් වහන්සේලා ගැන, රහත් තෙරණින් වහන්සේලා ගැන. අපි අනිත් අනිත් කිසිම කෙනෙකුට උතුම් කියලා කිව්වත් වඩාත්ම උතුම් කියන වචනය ගැලපෙන්නෙ කෙලෙස් නැසූ රහතන් වහන්සේටත්, රහත් මුණිවරයන් වහන්සේලාටත්.

ගාමිණී වා යදිවාරඤ්ඤෙ නින්නේවා යදිවා තලේ යත්තර හන්තු විහරන්ති තං භූමිං රාමනෙය්‍යතං - ගමක වේවා, වනාන්තරයක වේවා, නිම්නයක වේවා, කඳු ගැටයක වේවා, රහතන් වහන්සේලා යම් තැනක වැඩ සිටිනවා නම් ඒ බිම ඇත්තෙන්ම සුන්දරයි. කෙලෙස් නැති නික්ලේශී උත්තමයො යම් භූමියක වැඩ ඉන්නවා නම් ඒ නිකෙලෙස් උතුමන් නිසා ඒ භූමිය ඇතතෙන්ම සුන්දර වෙනවා. අපි මේ උපන්න ලංකා භූමිය රහතන් වහන්සේලා වැඩ හිටිය බිමක්. රහතන් වහන්සේලාගේ නිකෙලෙස් පහසින් පිවිතුරු වෙච්චි, පාරිශුද්ධ වෙච්චි භූමියක්. රහතන් වහන්සේලා ලෝකයට බිහි කරපු ඒ පරම පූජනීය ශාස්තෘන් වහන්සේ තුන්ලෝකාග්‍ර භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ සම්බුදු පහසිනුත් මේ භූමිය පාරිශුද්ධ වුනා. ඇත්තෙන්ම අපේ මාතෘ භූමිය සුන්දර තැනක්. ඒ සුන්දර වුනේ නිකෙලෙස් ශාස්තෘන් වහන්සේග් පහස ලැබූ නිසා. ඒ නිකෙලෙස් ශාස්තෘන් වහන්සේගේ ළය මඩලින් උපන් පුත්‍රයන් දියණිවරු වන රහතන් වහන්සේලාගේ රහත් තෙරණින් වහන්සේලාගේ නික්ලේශී පහස ලැබූ නිසා, ඒ බුදුරජාණන් වහන්සේගේ ධාතූන් වහන්සේලාගේ පහස ලැබූ නිසා, ඒ උතුම් රහතන් වහන්සේලොගේ ධාතූන් වහන්සේලාගේද පහස ලැබූ නිසා, බුදුරජාණන් වහන්සේගේ සම්බෝධියට සෙවණ දුන් උතුම් බෝධීන් වහන්සේගේ පහස ලැබූ නිසා මේ ලංකා භූමිය පූජනීයයි. මේ ලංකා භූමිය සුන්දරයි. මේ ලංකා භූමියේ ජන්ම ලාභය ලැබූ අපට තාම ඒ සුන්දර වූ ලංකාභූමියේ තියෙන සුන්දර දායාදයක් ඉතිරි වෙලා තියෙනවා. ඒ තමයි තෙරුවන් සරණ. ඒ තෙරුවන් සරණ අපේ ජීවිතයට පින්වතුනේ සම්බන්ධ කරගත්තොත් අපේ ජීවිතේ එකම සරණ බවට පත්කරගන්න දක්ෂ වුනොත් අපිට තාම පිහිටක් තියෙනවා. අපිට තාම පිහිටක් තියෙනවා මේ සාංසාරික ගමනේ සසර දුක් නැසීම පිණිස යම් සරණක් උපකාරී වෙනවා ද ඒ සරණ මේ සුන්දර ලංකාභූමියේ උපන්න අපට සලසාගන්න අවකාශ තියෙනවා. රමණීයානි අරඤ්ඤානි යත්ථන රමති ජනො වීතරාගා රමෙස්සන්ති න තෙ කාම ගවේසිනො - මහා වනාන්තර හරීම ලස්සනයි. ඒ වුනාට කම්සැප හොයන ජනයා ඒ වනයට ඇලෙන්නෙ නෑ, වීතරාගී රහතන් වහන්සේලානම් මහවනයට හරි කැමතියි, උන්වහන්සේලා කම්සැප හොයන්න නැති නිසයි එහෙම වුනේ. කම්සැප නොසොයන වීතරාගී වූ ඒ මහරහතුන් ඒ රහත් මුණිවරියන් කොයි තැනක වුනත් සුවසේ වැඩ ඉන්නවා. උන්වහන්සේලා කාමය නොසොයන නිසා, කාමය නොපතන නිසා සැනසිල්ලේ වැඩසිටියි. සැනසිල්ලේ වැඩ සිටි රහතන් වහන්සේලා ගැන, රහත් තෙරණින් වහන්සේලා ගැන අපි බොහෝ කාරණා මේ දේශනා මාලාවේදී ඉගෙන ගත්තා. අද

ධම්මපදයේ අරහන්ත වර්ගයේ මහා කාරුණික ශාස්තෘන් වහන්සේ ධම්මපදයේ අරහන්තක වර්ගයේදී ගාථා දහයකින් රහතන් වහන්සේ ගැන කියාදුන්නා. අපි අද ඉගෙන ගත්තෙ ඒ රහතන් වහන්සේලා ගැන වදාළ ගාථා දහය. ඉතින් ඒ රහතන් වහන්සේලාට, රහත් තෙරණින් වහන්සේලාට නමස්කාර කරමින් අපි පින්වතුනේ පුණ්‍ය ප්‍රාර්ථනා එකතු කරමු, අපිට මේ තෙරුවන් සරණ ලැබිච්චි දුර්ලභ මනුස්ස ජීවිතේ, බුදු කෙනෙකුගේ දුර්ලභ බණ පද අහන්න ලැබිච්චි මේ දුර්ලභ මනුස්ස ජීවිතේ අපිට යහපත පිණිස ධර්මය කියාදෙන කල්‍යාණමිත්‍රයො මුණගැහිච්ච මේ මනුස්ස ජීවිතේ සුවසේ පින් පුරාගෙන සුවසේම දහම් මග දියුණුකරගෙන රහතන් වහන්සේලා සැනසුන, රහත් තෙරණින් වහන්සේලා සැනසුන ඒ අමෘත නිවනේ සැනසෙන්න අප හැමදෙනාටත් වාසනාව ලැබෙන්වා, සාදු සාදු සාදු!!!

රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් සක්දෙවිඳුන්, සතරවරම් දෙවිවරු, සෙන්පති දෙවිවරු ප්‍රධාන සියලු දෙවියෝ සතුටු සිතින් අනුමෝදන් වෙන්වා. පින් අනුමෝදන් වන දෙවියෝ දිව්‍ය සැපයෙන්, දිව්‍ය ආශ්චර්යයෙන් වැඩෙන්වා. ඒ සියලු දෙවියන්ගේ රැකවරණ උපකාර අප හැමදෙනාට දෙවියෝ නිරන්තරයෙන් සලසා දෙන්වා. දෙවියෝද සංසාර දුකින් අතමිදෙන්වා, සාදු සාදු සාදු!!! රැස් කරගන්නට යෙදුනා වූ උදාරතර පුණ්‍ය ධර්මයන් ගුරුදේවොත්තම කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වෙන්වා. පින්වත් ස්වාමීන් වහන්සේ නිදුක්ව නිරෝගීව දීර්ඝායුෂ ලබන්වා. මේ ගෞතම බුද්ධ ශාසනය තුළම උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරන්න වාසනාව ලැබෙන්වා, සාදු සාදු සාදු!!! රැස් කරන්න යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අපි අනුමෝදන් කරමු අද ධර්ම දානය සිදු කරන පින්වත් අයේෂා සඳමාලි මල්ලවාරච්චි මහත්මියගේ නමින් මියපරලොව යන්න යෙදුනා වූ සියලූ ඥාතීන්ට හිතමිත්‍රාදීන්ට මේ සියලු පින් අනුමෝදන් වෙන්වා. අනන්ත සසර පුරාවට තමන්ගේ නමින් මියගිය සියලු ඥාතීන්ට ඉතා ඉක්මණින්ම සසර දුකින්න නිදහස් වීම පිණිස මේ පින් හේතු වාසනා වෙන්වා කියන අදහසින් ඥාතීන්ට පින් අනුමෝදනාව සිදු කරන්න. රැස් කලා වූ සියලූම පූණ්‍ය ධර්මයන් උපන්දිනය සමරන පින්වත් වත්සලා ඉඳුනිල් මල්ලවාරච්චි සොහොයුරියටත් ඒ සොහොයුරියගේ පවුලේ සියලුදෙනාටත් අනුමෝදන් වෙන්වා. ඒ හැමදෙනාට නිදුක් නිරෝග සුව සැලසේවා. ජීවිත වලට නිරතුරුව උතුම් වූ කල්‍යාණමිත්‍ර ඇසුරම ලැබේවා. සුවසේ දහම් මග දියුණු කරගෙන ධර්මාවබෝධයෙන් සැනසෙන්න වාසනාව ලැබෙන්වා කියලා අපි

සෙත් ප්‍රාර්ථනා කරනවා. අසනීප තත්වයෙන් පසුවන පින්වත් රෝහණ මල්ලවාරච්චි පියාණන්ට මේ සියලුම පින් අනුමෝදන් වෙත්වා. සෝමා මල්ලවාරච්චි මෑණියන්ටත් පින් අනුමෝදන් වෙත්වා. ඒ දෙමව්පියන්ට මේ සියලු පින් අනුමෝදන්ව නිදුක් නිරෝග සුවශාන්තිය සැලසේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා, ගෞතම ශාසනයේ ධර්මාවබෝධයෙන් සැනසෙන්න මේ සියලු පින් හේතු වාසනා වෙත්වා. ධර්ම මාර්ගයේ හැසිරීම පිණිස උදව් උපකාර කල ඉතාලි මහමෙව්නා භාවනා අසපුවේ පින්වත් සෑම සියලුදෙනාටත් මේ පින් අනුමෝදන් වෙත්වා. අද ධර්ම දේශනාවේ දායකත්වය දරන ශ්‍රද්ධා ධර්මදාන සාමාජිකාවක් වන පින්වත් අයේෂා සඳමාලි මල්ලවාරච්චි මහත්මියටත්, ඒ පවුලේ සෑම සියලු දෙනාටත් මේ සියලු පින් අනුමෝදන්ව ඒ පින්වතුන්ලා කරන කිය රැකී රක්ෂා ආදී සියලු කටයුතු, පවුලේ දූදුරු මුණුබුරු මිණිබිරියන්ගේ අධ්‍යාපන කටයුතු ආදී ඒ හැමදේත් සර්වප්‍රකාරයෙන්ම සාර්ථක වෙත්වා. ජීවිත වලට සියලු යහපත අභිවෘද්ධියම සැලසෙත්වා. කිසීම කරදරයකින් බාධාවකින් තොරව පින්වතුන්ලාට සුවසේ ජීවිත ගතකරන්න ලැබෙත්වා. ශ්‍රද්ධා මාසික ධර්ම දාන සාමාජික පින්වතුන්ලා හැමදෙනාටත් ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ සියලුදෙනාටත් ඔබටත් මේ බුද්ධ ශාසනය තුලම චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=DmTiX9rkrS0

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

මාගේ ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ගෞරවාදර වන්දනාව වේවා. සාදූ සාදූ සාදූ!!!

සැදැහැවත් වාසනාවන්ත පින්වත්නි, ඒ අමා නිවන් දුටු අර්හත් තෙරණිවරු උතුම් සද්ධර්ම දේශනා මාලාවේ අවසාන දේශනාව එක්කයි අද මේ

පින්වතුන්ලා එකතු වෙන්නෙ. පින්වතුනි මේ දේශනා මාලාවේදී ඒ අමා නිවන් දුටු සැබෑම රහත් තෙරණිවරු වදාළ උතුම් ගාථා පන්සිය විසි එකක් ඇසුරු කරගෙන දේශනා 59 ක් අපි සිදු කලා. ඒ දේශනා වලින් අපි සැබෑම රහත් තෙරණින් වහන්සේලාගේ ජීවිත ගැන බොහෝ දේ ඉගෙන ගත්තා. සිත් පහදවාගන්න උපකාර කරන දේ. මීට පෙර අපි සිදු කලේ ඒ අමා නිවන් දුටු රහතන් වහන්සේලා නමින් උතුම් සද්ධර්ම දේශනා එකසිය පනස් නවයකින් රහතන් වහන්සේලා වදාළ ගාථා 1291 ක් අපි කියලා දුන්නා සිත් පහදවා ගැනීම උදෙසා. අද එසේ කරගෙන පැමිණි දේශනා මාලාවක අවසාන දිනය, අද මේ දේශනාව රහතන් වහන්සේලා ගැනම සිහි කරන දේශනාවක්. අද දේශනාවට දායකත්වය දරන්නේ මීට වසර නවයකට පෙර මියපරලොව යන්න යෙදුනා වූ පින්වත් ගුණපාල අරඹගේ පියාණන්ට පින්පෙත් අනුමෝදනා කරන අදහසින් මහරගම පදිංචි පින්වත් කරුණා අරඹගේ මැණියන් විසින් මේ ධර්ම දානය සිද්ධ කරන්නෙ තමන්ගේ නමින් මියගිය ඒ ඥාතිවරයාට පින්පෙත් අනුමෝදනා කිරීම පිණිසයි. මේ ලෝකයට රහතන් වහන්සේලා බිහි කල, රහත් තෙරණින් වහන්සේලා බිහි කල නිවී සැනසී ගිය ජීවිත ඇති අය මේ ලෝකයට බිහි කල ශාස්තෘන් වහන්සේ බුද්ධං සරණං ගච්ඡාමි කියලා අපි සරණ ගියපු අපගේ භාග්‍යවතුන් වහන්සේ. ඒ බුදුරජාණන් වහන්සේ රහතන් වහන්සේලා ගැන මේ විදියට දේශනා කලා. යාවතා භික්ඛවෙ සත්තාවාසා මහණෙනි මේ ලෝකයේ සත්වයෝ වාසය කරන තැන් යම්තාක් තිබේද, යාවතා භවග්ගං - යම්තාක් භවාග්‍රයෝ තිබෙද්ද, ඒතේ අග්ගා ඒතෙ සෙට්ඨා ලෝකස්මිං යදිදං අරහන්තො - ඒ සියල්ලටම අග්‍ර වන්නේ ඒ සියල්ලටම ශ්‍රේෂ්ට වන්නේ ඒ උතුම් රහතන් වහන්සේලාමය. මෙසේ වදාළ බුදුරජාණන් වහන්සේ රහතන් වහන්සේලා ගැන බොහෝම අපූරුවට බොහෝම අපූරුවට බොහෝම ලස්සනට ගාථා වලින් පෙන්වා දුන්නා. සුඛිනො වත අරහන්තො තණ්හා තේසං න විජ්ජති අස්මි මානෙ සමුච්ඡින්නො මෝහ ජාලං පදාලිතං - ඒකාන්තයෙන්ම රහතන් වහන්සේලා තමයි මේ ලෝකෙ සුවසේ ඉන්නෙ. උන්වහන්සේලා තුළ තණ්හාවක් නැත්තේය. මම වෙමියි කියන අස්මි මානය ද උන්වහන්සේලා මුලින්ම සිඳ බිඳ දා තිබේ. මෝහය නැමැති පලා දමලයි ඒ රහතුන් වැඩ ඉන්නෙ. රහතන් වහන්සේලා කියන්නෙ මේ ලෝකයේ යම් පිරිසකට කියන්න පුලුවන් නම් සුවසේම ඉන්නවා කියලා, ඒ සුවසේම ඉන්නවා කියලා කිවහැක්කේ රහතන් වහන්සේලාට. ඇයි රහතන් වහන්සේලා සුවසේ වැඩ ඉන්නෙ, උන්වහන්සේලාගේ ජීවිතේ දුක නැති නිසා. ඇයි රහතන් වහන්සේලාගේ ජීවිත

තුළ දුක නැත්තෙ? ඒ රහතුන් දුක හදන දේ නැසූ නිසා. දුක හදන්නෙ පින්වතුනි තණ්හාවෙන්. තණ්හාය ජායතී සෝකෝ - තණ්හාව නිසාම ශෝකය හටගන්නේමය. තණ්හාය ජායතී බයං - තණ්හාව නිසාම කෙලෙස් බය හටගන්නේය. තණ්හාය විප්පමුත්තස්ස - තණ්හාවෙන් යම් කෙනෙක් නිදහස් වුනා නම්, නත්ථි සොකො - ශෝකයක් නැත. කුතොභයං - කොයින්ද කෙලෙස් බයක්. කිසිවක් නෑ. සැනසිල්ලේ වැඩ ඉන්නවා. අනේජංතෙ අනුප්පත්තා චිත්තං තේසං අනාවිලං ලෝකෙ අනුපලිත්තාතෙ බ්‍රහ්මභූතා අනාසවා - උන්වහන්සේලා තෘෂ්ණා රහිත වූ අර්හත්වයට පත්වෙලයි ඉන්නෙ. උන්වහන්සේලාගේ සිත කැළඹෙන්නෙ නෑ. උන්වහන්සේලා මේ ලෝකය සමඟ තැවරෙන්නේ ද නෑ, ශ්‍රේෂ්ට තත්වයට පත්වෙලයි ඉන්නෙ. ආශ්‍රව රහිතවයි ඉන්නෙ. පින්වතුනි මේ ලෝකයේ යම් ධර්මයක් නිසා ජීවිතේ ශ්‍රේෂ්ටත්වය කරා පත්වෙනවා නම්, ජීවිතේ දියුණුව කරා පත්වෙනවා නම්, ජීවිතේ අභිවෘද්ධියක් කරා ඉදිරියක් කරා යනවා නම්, යම් ඉගැන්වීමක් නිසා, යම් දහමක් නිසා ඒ බුදුරජාණන් වහන්සේගේ ධර්මයයි. බුදුරජාණන් වහන්සේගේ ධර්මයෙන් තමයි ජීවිතය ශ්‍රේෂ්ටත්වය කරා යන්නෙ. බලන්න මේ ලෝකෙ යම්තාක් සත්වයො වාසය කරන තැන් තියෙනවාද, යම්තාක් භවාග්‍ර තියෙනවාද ඒ සියල්ලටම ඉහළින් වැඩ ඉන්නේ රහතන් වහන්සේලා. හැබැයි ඒ රහතන් වහන්සේලා වැඩ ඉන්නෙ බුදුසසුනේ පමණයි. බුද්ධ ශාසනය තමයි රහතුන් වැඩ ඉන්නා තැන. මේ ලෝකයේ ශ්‍රමණයො වැඩ ඉන්නෙ සම්බුද්ධ ශාසනයේ. අනිත් සියලු ඉගැන්වමී, අනිත් සියලු ශාසන ශ්‍රමණයන්ගෙන් හිස්. රහතන් වහන්සේ කියලා කියන්නෙ ඒ ශ්‍රමණ පිරිස අතරේ අග්‍රම කෙනා. ඒ රහතන් වහන්සේලාගේ ජීවිත කැළඹෙන්නේ නෑ, කැළඹීම් ඇතිකරවන කෙලෙස් කිසිවක් ඒ ජීවිතේ නෑ. රාගය නිසා කැළඹෙනවා. රහතන් වහන්සේලාගේ ජීවිත තුළ රාගය නැත. වීතරාගී වන සේක. ද්වේෂය නිසා ජීවිතය කැළඹෙනවා. රහතන් වහන්සේලාගේ තුළ ද්වේෂය නැත. වීතදෝෂී වන සේක. මෝහය නිසා ජීවිතය කැළඹෙනවා. රහතන් වහන්සේලා තුළ මෝහය නැත. වීතමෝහී වන සේක. ඒ රාග, ද්වේෂ, මෝහ සම්පූර්ණයෙන්ම දුරු කරපු කැළඹීම පිණිස හේතුවෙන කෙලෙස් සම්පූර්ණයෙන්ම දුරු කරපු රහතන් වහන්සේ, කෙලෙස් සහිත ලෝකයත් එක්ක තැවරෙන්නේ නැත. පුණ්ඩරීකං යථා වග්ගො තෝයේනං නූපලිප්පති - සුදු නෙළුමක් පිපුනාට පස්සෙ ඒ නෙළුම වතුරෙන් උඩට පැමිණෙනවා. පිපුණු නෙළුම වතුරෙන් උඩට පැමිණිලා යළි වතුරත් එක්ක නොතැවරී තියෙනවා. අන්න ඒ වගේ තමයි මේ ලෝකයේ රහතන් වහන්සේ

ගැන තේරුම් ගත යුත්තේ. රහතන් වහන්සේ මේ ලෝකයේ උපදිනවා. බුදුරජාණන් වහන්සේගේ උතුම් ශ්‍රී සද්ධර්මය කියන සූර්යයාලෝකය ඒ ජීවිතයට ලැබෙනකොට නෙළුමක් පිබිදෙනවා වගේ ඒ රහතන් වහන්සේලා ප්‍රඥාවෙන් මුහුකුරා යනවා. යළි මේ ලෝකයත් එක්ක ඒ උතුමන් වහන්සේලා තැවරෙන්නෙ නැත. උන්වහන්සේලා තමයි ශ්‍රේෂ්ටත්වයට පත්වුනේ. උන්වහන්සේලා ආශ්‍රව රහිතව සැනසිල්ලේ වැඩ ඉන්නවා. ඒ සැනසිල්ල සම්බන්ධයෙන් වෙන කෙනෙක් උන්වහන්සේලාට සාක්කි දෙන්න ඕන නෑ, වෙන කෙනෙක් උන්වහන්සේලාට ඇවිත් කියන්න ඕන නෑ ඔබ ඉන්නෙ සැනසිල්ලෙ කියලා. උන් වහන්සේලා දන්නවා තමන් උපදවාගත්තෙ මේ ලෝකෙ තියෙන පරම ශාන්තියයි කියලා. එක කාලෙක ආලවිකා කියන අර්හත් උත්තමාවිය අන්ධ වනයේ වැඩ හිටියා. අන්ධ වනයේ වැඩ හිද්දි පින්වතුනේ පවිටු මාරයාට හිතුවිල්ලක් හටගන්නවා, මේ ආලවිකා කියන තෙරණිය තනියම අන්ධ වනයේ ඉන්නවා. මැව භය කරන්න ඕන. කිසිවිටෙකත් බය හටනොගන්නා ස්වභාවයෙන් යුක්ත අර්හත් උත්තමාවියක් මේ වැඩ ඉන්නේ කියලා මාරයා දන්නෙ නෑ. මාරයා මිනිස් වෙසකින් ආලවිකා රහත් තෙරණිය ළඟට පැමිණුනා, පැමිණිලා මේ රහත් භික්ෂුණියට මාරයා කියනවා මේ ලෝකෙ නිවන කියලා දෙයක් නෑ, ඔය චිත්ත විවේකයෙන් මොනවා කරන්නද, අයියෝ කාම සැප විඳලා ඉන්න, ඔන්න පස්සෙ දුක් වෙන්න නම් එපා කිව්වා. මේ කම්සැපය කියන එක අත්හැරලා තරුණ කාලෙම වනයකට ඇවිල්ලා විවේකය හොයාගෙන ඔය නිවනක්නෙ පතන්නෙ. එහෙම එකක් නෑ කිව්වා මේ ලෝකෙ. ඒ නිසා අපරාදි ඔය කාලෙ. හොඳට කම්සැප විඳලා ඉන්නෙ පස්සෙ ඔයාට දුක හිතෙයි කිව්වා. එතකොට ආලවිකා භික්ෂුණිය  බැලුවා කවුද මේ අන්ධ වනය ඇතුලට පැමිණිලා මේ මට මේ විදියේ වචන කියන පුද්ගලයා. ඇය අඳුනගත්තා මේ තමයි මාරයා. ආලවිකා භික්ෂුණිය කියනවා අත්ථි හි සරණං ලෝකෙ - ලෝකයේ නිවන කියලා දෙයක් තියෙනවා. ලෝකෙ නිවනක් තියෙනවා. දුක් විඳ විඳ යන මේ ප්‍රශ්නෙට විසඳුමක් තියෙනවා. ඇත්තටම පින්වතුනි නිවන කියලා කියන්නෙ විසඳුම. බුදුරජාණන් වහන්සේ ප්‍රශ්නෙ ගැන කියලා දුන්නා, ප්‍රශ්නෙ තමයි දුක. ඉපදීම දුකකි, ලෙඩවීම දුකකි, වයසට යෑම දුකකි, මරණය දුකකි, එකට ඉන්න ප්‍රිය ඥාතීන් ඊළඟට එක්රැස් කරන ප්‍රිය වස්තූන් අහිමි වීම දුකකි, අප්‍රිය අමනාප දේත් සමඟ එක්වෙන්න සිදුවීම දුකකි. තමන් කැමැති දේ නොලැබීම දුකකි, පඤ්චුපාදානස්කන්ධය දුකකි. මේ තමයි ප්‍රශ්නෙ. නුවණින් ලෝකය දිහා බැලුවොත් මේ ප්‍රශ්නෙ තියෙන බව පේනවා. මොන ජාතියේ

උපන්නත්, මොන ආගමක උපන්නත්, මොන තරාතිරම් වල උපන්නත්, මොන විදියට උපන්නත් මේ ප්‍රශ්නෙ තියෙනවා. ඒ තමයි දුක. දුකට හේතුව බුදුරජාණන් වහන්සේ ඇයි ඒ දුක කියන එක තියෙන්නේ කියන එක භාග්‍යවතුන් වහන්සේ වදාළා. දුක තියෙන්නේ තණ්හාව නිසා. තණ්හාව යම් තැනක තියෙනවා නම් තණ්හාව තිබෙනා තැන දුක තිබේ. දුකත් දුකේ හේතුවත් වදාළ ශාස්තෘන් වහන්සේ විසඳුමකුත් වදාළා. විසඳුම තමයි අමෘත නිවන. තණ්හාව නිරුද්ධ කිරීම. තණ්හාව නිරුද්ධ කරපු තැන නිවනයි. නිදහස් වීම නිවනයි. මේ දුක් විඳ විඳ යන ගමනින් නිදහස් වීම නිස්සරණය, නිවන. නිවන කියන විසඳුම ගැන වදාළ ශාස්තෘන් වහන්සේ විසඳුම කරා යන මාවතත් වදාළා. ඒ තමයි ආර්ය අෂ්ටාංගික මාර්ගය. සීල, සමාධි, ප්‍රඥා වැඩපිළිවෙල. ඒ වැඩපිළිවෙල තුළින් අර්හත්වය පසක් කල, නිවන පසක් කරපු උත්තමාවියටනෙ මේ වචනය මාරයා කිව්වෙ. ඈ කියනවා මාරය, ලෝකයේ නිවනක් කියලා දෙයක් තියෙනවා. මට ඒක ප්‍රඥාවෙන් අවබෝධ වුනා. පමත්ත බන්ධු පාපිම න ත්වං ජානාසි තං පදං - පමා වූ ජනයාගේ ඥාතියා වූ මාරයා ඔහේ කොහොමද කියලා අහනවා ඒ නිවන කියන පදය ගැන දන්නේ. ඔහේ තාම සසරේ, ඔහේ කොහොමද නිවනක් ගැන දන්නෙ. සත්ති සූලූපමා කාමා - කාමය කියලා කියන්නෙ දරුණු ආයුධ වගේ දෙයක්. ඛන්ධාසං අධිකුට්ඨනා - මේ රූපස්කන්ධය කියන්නෙ කාමයන්ට මස්වැදලි වගේ. යං ත්වං කාමරතිං බ්‍රූසි අරති මය්හං සා අහො - ඔබ ඔය යම් සැපයක් ගැන කිව්වද කාම සැපය ඒක අහිමි වෙන්න කලින් විඳලා ඉන්න සැපක් කිව්වද, ඒ කාම සැපය කියන එක නම් මට අරතියක්මයි කිව්වා. ඇයි ඊට වඩා සුන්දර සැපයක් ඊට වඩා අතිශයින්ම සුන්දර සැපයක්, කාම සැපයත් එක්ක සසඳන්නවත් බැරි අතිශයින්ම සුන්දර සැපයක් නිවන පසක් කරපු ඒ අර්හත් උත්තමාවිය විඳලා. මාරයාට තේරුනා තමන් කතා කරන්න ආවෙ වැරදි කෙනත් එක්ක කියලා. අයියෝ මේ ආලවිකා අර්හත් උත්තමාවිය මාව දැනගත්තානෙ කියලා දුක් වුනා. මාරයා එතනම නොපෙනී ගියා. බුදුරජාණන් වහන්සේ රහතන් වහන්සේලා ගැන මෙසේ වදාළා. පඤ්චක්ඛන්ධෙ පරිඤ්ඤාය සත්ත සද්ධම්ම ගෝචරා පාසං සියා සප්පුරිසා පුත්තා බුද්ධස්ස ඕරසා - පඤ්චුපාදනස්කන්ධයන් පිරිසිඳ අවබෝධ කරලයි ඉන්නෙ. හිරි ඔත්තප්ප ආදී සද්ධර්මයන් හතක් උන්වහන්සේලා මුල් කරගෙනයි ඉන්නෙ. උන්වහන්සේලා ප්‍රශංසාවට සුදුසුයි, සත්පුරුෂයි. බුදුරජාණන්වහන්සේගේ ළයෙහි උපන් පුතණුවන් වහන්සේලායි. රහතන් වහන්සේලා ගැන කියන්නෙ පුත්තා බුද්ධස්ස ඕරසා. සම්බුදුරජුන්ගේ

ළයමඩලේ උපන් පුත්‍රයෝ රහතන් වහන්සේලාය. එහෙනම් අපිට කියන්න පුලුවන් රහත් තෙරණිවරු ගැන, සම්බුදුරජාණන් වහන්සේගේ ළය මඩලේ උපන් දියණිවරු අර්හත් උත්තමාවියෝය. ඒ රහතන් වහන්සෙලා රහත් තෙරණින් වහන්සෙලා පඤ්චුපාදානස්දන්ධය පිරිසිඳ අවබෝධ කලා. ඒ කිව්වෙ මොකක්ද, දුක සම්පූර්ණයෙන් අවබෝධ කලා, සංක්ෂේපයෙන් හකුලලා කියනවා නම් පඤ්චුපාදානස්කන්ධයට තමයි දුක කියා කිවයුත්තෙ. ඒ පඤ්චුපාදානස්කන්ධය සම්පූර්ණයෙන්ම අවබෝධ කලා රහතන් වහන්සේලාත්, රහත් තෙරණින් වහන්සේලාත්. එහෙම අර්හත්වයට පත්වෙච්චි උත්තමාවියක් හිටියා. ඒ උත්තමාවියගේ නම වජිරා. ඔය වජිරා කියන අර්හත් තෙරණිය එක කාලෙක අන්ධ වනයේ, දැන් මේ අන්ධ වනයේ කියන මුණිවරු මුණිවරියෝ වැඩ හිටපු වනාන්තරය අපිට මේ දේශනා මාලාවේදී අවස්ථා ගණනාවකදීම අහන්න ලැබුනා. අන්ධ වනය සැවැත් නුවර තියෙන්නෙ. සැවැත්නුවර අන්ධ වනය කියලා කියන්නෙ පින්වතුනි ඒ කාලෙ නම් ඇත්තෙන්ම අතිශයින්ම සුන්දර භූමියක්. මොකද රහතන් වහන්සේලා රහත් තෙරණින් වහන්සේලා, වීර්යය වඩන උත්තමයො උත්තමාවියො අන්ධ වනයමයි ඇසුරු කරන් හිටියේ. ඉතින් වජිරා භික්ෂුණියත් අන්ධ වනයේ තමයි විවේකයෙන් වැඩ හිටියේ. ඒ වෙලාවේ මාරයාට හිතක් උපදිනවා, මේ වජිරා භික්ෂුණියගේ මාර්ගය අවුල් කරලා දාන්න ඕන. වජිරා භික්ෂුණියව පටලවන්න ඕන කියලා. මාරයා වජිරා භික්ෂුණිය ළඟට ඇවිල්ලා ප්‍රශ්නයක් අහනවා. කේනායං පකතො සත්තො මේ සත්වයාව හැදුවේ කවුරුන් විසින්ද. ත්වං සත්තස්ස කාරකො - මේ සත්වයාව හදපු එක්කෙනා ඉන්නෙ කොහේද. ත්වං සත්තො සමුප්පන්නො - මේ සත්වයා ඉපදුනේ මොකෙන්ද. ත්වං සත්තො නිරුජ්ඣති - ඒ සත්වයා නිරුද්ධ වෙන්නේ කොහොමද, ඔහොම ප්‍රශ්නයක් ඇහුවා. ඒ ප්‍රශ්නය අහනකොට වජිරා භික්ෂුණිය බලනවා කවුද මේ අන්ධ වනය ඇතුලට පැමිණිලා මාත් එක්ක මේ විදියේ කතාවක් කියන කෙනා, අඳුනගත්තා. මේ මාරයා, මාරයාට දුන්නෙ මෙහෙම උත්තරයක්. ඒයි මාරය, සත්වයෙක් කියලාද කියන්නෙ. ඒක ඔබේ මාර දෘෂ්ටිය නොවැ. මෙතන තියෙන්නෙ හුදු සංස්කාර ගුලියක්. ඒ උත්තමාවිය මේ අර්ථය වදාළේ සම්මතය තුළ පිහිටලා නෙවෙයි. ඒ උත්තමාවිය මාරයාට මේ අර්ථය වදාරනකොට සම්මුතිය ඉක්මවා පරමාර්ථය තුළ ඉඳලා මාරයාට මේ කාරණය වදාළේ. මෙතන තියෙන්නෙ හුදු සංස්කාර ගුලියක්නෙ. මේකෙ සත්වයෙක් හොයාගන්න නෑ, යථා අංග සම්භාරා හොති සද්ධො රතො ඉති ඒවං කන්දේසු සන්තේසු හොති සත්තොති සම්මුති - අන්න

සම්මුතිය ගැන හරි ලස්සනට කියලා දෙනවා. අංගෝපාංග එකතු වෙලා තමයි රථය කියන ශබ්දය ඇතිවෙන්නෙ. අංගෝපාංග ටික එකතු කරලා හැදුවට පස්සෙ අපි ඒකට කියනවා රථය. දැන් අද වුනත් එහෙමනෙ, එකලත් එහෙමයි. අංගෝපාංග නොයෙක් නොයෙක් විදියට එකතු කලාම නොයෙක් නොයෙක් විදියට රථ. රෝද දෙකේ රථ තියෙනවා. රෝද තුනේ රථ තියෙනවා. රෝද ගොඩාක් තියෙන රථ තියෙනවා. ඒ අංගෝපාංග එකතු කරන විදිය අනුව තමයි ඒ ඒ රථයට ඒ ඒ නම ඒ ඒ ව්‍යාවහාරය, ඒ ඒ සම්මුතිය යෙදෙන්නෙ. අන්න ඒ විදියමයි මේ පඤ්චුපාදානස්කන්ධය තියෙනකොටයි සත්වයා කියන සම්මුතිය ඇතිවෙන්නෙ. පඤ්චුපාදානස්කන්ධය තියෙද්දි එතන සත්වයා කියන සම්මුතියට එනවා. රූප උපාදනස්කන්ධය තියෙද්දී, මොකද උපාදන වෙච්චි කෙනෙක් ඉන්නවා. අන්න එතන එතකොට සත්වයා කියන සම්මුතිය තියෙනවා. රූප, වේදනා, සංඥා, සංස්කාර, විඤ්ඤාණ කියන මේ පහට කෙලෙස් සහගතව උපාදාන වෙච්චි කෙනෙක් ඉන්නකොට එතන සත්වයා කියන සම්මුතිය තියෙනවා. හැබැයි කෙලෙස් සහගතව උපාදාන වෙච්චි එකෙන් යම් කෙනෙක් නිදහස් වුනානම් එතන තියෙන්නෙ නිකං පඤ්චස්කන්ධ ටිකක් විතරයි. එතන සත්වයා කියන සම්මුතියක් ඇත්තේ නැත. දුක්ඛමේවහි සම්බෝති දුක්ඛං ඉට්ඨති වේචිත - හටගන්නෙ තියෙන්නෙ දුක විතරයි, පවතින්නේත් දුකමයි, දුක මිසක් හටගන්න වෙන දෙයක් නෑ. දුක මිසක් නැතිවෙන්න වෙන දේකුත් නෑ. නැතිකරලාදාන්න ඕන දුකයි කිව්වා. දුක නැති කරපු වජිරා අර්හත් තෙරණිය මෙහෙම කියද්දි මාරයා එතනම අතුරුදහන් වුනා. අයියෝ වජිරා භික්ෂුණියත් මාව අඳුනගත්තා නොවැ කියලා. දුකට පත්වෙලා නොපෙනී ගියා. සත්තරතන සම්පන්නා තීසුසික්කා සුසික්කිතා අනුවිචරන්ති මහාවීරා පහීණ භය දේරවා - බොජ්ඣංග ධර්ම නම් වූ මාණික්‍ය රත්න හතෙනුත් යුක්තයි, සීල, සමාධි ප්‍රඥා යන ත්‍රිවිධ ශික්ෂාවෙ හික්මිලයි ඉන්නෙ. භයභේරවයන් ප්‍රහීන වෙලා ඉන්න ඒ මහා වීරයන් වහන්සේලා නිදහස් සිතින් සැරිසරා වඩිනවා. සත්තරතන සම්පන්නා -රහතන් වහන්සේලාට තියෙන මැණික් බොජ්ඣංග. රහතන් වහන්සේලා ජීවිතේ තුළ උපදවාගත්තු මහාසම්පත්තියට තියෙන්නෙ ඒ මහා වස්තූන්ට කියන්නෙ බොජ්ඣංග කියලයි. සති සම්බොජ්ඣංගය, ධම්මවිචය සම්බොජ්ඣංගය, විරිය සම්බොජ්ඣංගය, පීති සම්බොජ්ඣංගය, පස්සද්ධි සම්බොජ්ඣංගය, සමාධි සම්බොජ්ඣංගය සහ උපෙක්ෂා සම්බොජ්ඣංගය කියන මේ බොජ්ඣංග හත, මේවා පින්වතුනි සම්බුද්ධ ශාසනයක් තුළ තියෙන මහා අනර්ඝ වස්තු. මේ

වස්තූන්ට හිමිකාරයෙක් බවට පත්වෙන කෙනා නිවෙනවාමයි. සාමාන්‍ය වස්තු සම්භාර වලට හිමිකාරයො බවට පත්වෙනකොට එක එක තැනටනෙ යන්නෙ. අපි හිතමු සාමාන්‍යයෙන් මේ මනුස්ස ලෝකෙ ලබන කම්සැප අතරේ අග්‍රම සැපය තමයි සක්විති කම්සැප. සක්විති රජෙක් බවට පත්වෙනකොට මැණික් හතකට උරුමකම් කියනවා. චක්‍රරත්නය කියලා විශේෂ මැණිකක් සක්විති රජාට, සක්විති රජුගේ පුණ්‍ය සෘද්ධිය විදියට පහළ වෙනවා. චක්‍ර රත්නය. චක්‍ර රත්නය ලැබූ කෙනා සක්විති වෙනවා. කෙනෙක් බොජ්ඣංග කියන රත්නයන් ලැබුවොත් ඒ කෙනා නිවෙනවා. බලන්න සුන්දරයි, මේ සම්බුද්ධ ශාසනේ අතිශයින්ම සුන්දරයි. සම්බුද්ධ ශාසනයක් තුළ උපදවාගන්න තියෙන බොජ්ඣංග කියන ඒ උතුම් රත්න හතට යම් කෙනෙක් හිමිකාරයෙක් බවට පත්වුනොත් ඒ කෙනා මේ සංසාර ගමනේ සියලු දුක් ගිනි වලින් නිදහස් වෙනවාමයි, නිවෙනවාමයි. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා රහතන් වහන්සේ තුළ ඒ සප්ත රත්නම ඒ මාණික්‍යය හතම දකින්න ලැබෙනවා. දැන් ඔය ගැන කියනකොට පින්වතුනේ බුදුරජාණන් වහන්සේගේ පරිනිර්වාණයෙන් වසර පන්සීයක් විතර ගියපු තැන නාගසේන නමින් උතුම් මහරහතන් වහන්සේ නමක් වැඩහිටියානෙ. ඒ නාගසේන මහරහතන් වහන්සේ මිලිඳු රජ්ජුරුවොත් එක්ක කරපු සාකච්ඡාවක් මුල් කරගෙන තමයි මිලිඳුරාජ ප්‍රශ්නය කියන උතුම් ග්‍රන්ථය සම්පාදනය වුනේ. එතකොට මේ මිලිඳු රජ්ජුරුවො කියන්නෙ ගොඩාක් ප්‍රශ්න තිබ්බ කෙනෙක්. ඔබ ශ්‍රද්ධා රූපවාහිනිය කලක් තිස්සේ නරඹන කෙනෙක් නම් මේ මිලිඳුරාජ ප්‍රශ්නය නමින් උතුම් දේශනා මාලාවකුත් සිද්ධ කලා අපේ පින්වත් පූජ්‍ය වැලිඩට සද්දාසීල ස්වාමීන් වහන්සේ. ඔබට ඉගෙන ගන්න ලැබෙන්න ඇති. එතකොට මේ මිලිඳුරාජ ප්‍රශ්නයේ එක තැනකදි රජ්ජුරුවො නාගසේන මහරහතන් වහන්සේට කියනවා ස්වාමීනී ඔබවහන්සේලා කියනවා අතීතයේ බුදුරජාණන් වහන්සේ වැඩ හිටියාලු, එහෙම ඔබවහන්සේලා කියනවා. ඔබවහන්සේලා එහෙම කිව්වාට ඔබවහන්සේ දැකලා තියෙනවාද බුදුරජාණන් වහන්සේ. නෑ මහරාජය මං දැකලා නෑ. ඔබවහන්සේව පැවිදි කරපු ආචාර්යයින් වහන්සේ දැකලා තියෙනවාද බුදුරජාණන් වහන්සේව. නෑ මහාරාජය මගේ ආචාර්යයින් වහන්සේ දැකලත් නෑ. ස්වාමීනී ඔබවහන්සේත් දැකලා නැත්නම්, ඔබවහන්සේගේ ආචාර්යපාදයන් වහන්සේලාත් දැකලා නැත්නම් බුදුරජාණන් වහන්සේව අපි කොහොමද පිළිගන්නෙ. පිළිගන්නෑ කිව්වා මම. බුදුරජාණන් වහන්සේ කියලා කනෙක් හිටියා කියන එක මං පිලිගන්නෑ කිව්වා.

දැන් නාගසේන මහරහතන් වහන්සේ මිලිදුරජ්ජුරුවන්ගෙන් අහනවා, රජතුමනි ඔබේ මේ රාජ වංශයේ ආරම්භක රජවරු ගැන ඔබ අහලා තියෙනවා. ඒ ඇසූ රජවරු ගැන ඔබ විශ්වාස කරනවාද කියලා ඇහුවා. කිව්වා ස්වාමීනී විශ්වාස කරනවා. අපේ ආරම්භක රජවරු මෙහෙම හිටියා. ඒ ආරම්භක රජවරු ඔබ දැකලා තියෙනවාද. නෑ ස්වාමීනී මං දැකලා නෑ, ඔබේ පියරජු ඒ ආරම්භක රජවරුන්ව දැකලා තියෙනවාද. නෑ ස්වාමීනී මගේ පියරජවරු දැකලත් නෑ. එතකොට නාගසේන මහරහතන් වහන්සේත් කියනවා මිලිඳු රජ්ජුරුවන්ට රජතුමනි එහෙනම් මං පිළිගන්නෑ, ඔය ආරම්භක රජවරු හිටියා කියන කතන්දරය මං පිළිගන්නෑ. ඔබ දැකලත් නැති, ඔබේ පියරජවරු දැකලත් නැති රජවරු ගැන මොකටද පිළිගන්නෙ කිව්වා. එතකොට මිලිඳු රජ්ජුරුවො කියනවා නෑ නෑ ස්වාමීනී, අපේ රාජමන්දිර තුළ තාම දකින්න ලැබෙනවා ඒ මුල් කාලීන රජවරු පැළැන්දූ ඔටුන්න දකින්න ලැබෙනවා. ඒ මුල්කාලීන රජවරුන්ගේ අසිපත දකින්න ලැබෙනවා. ඒ රජවරු පැළඳු පාවහන් දකින්න ලැබෙනවා. ඒ සියල්ල පෙනෙද්දී, ඒ රජවරු පාවිච්චි කරපු වස්තුව පෙනෙද්දි අපිට බලවත් විශ්වාසයක් හටගන්නවා එහෙනම් එහෙම රජෙක් ඉඳලා. නාගසේන මරහරහතන් වහන්සේ කියනවා එහෙනම් රජතුමනි ඔන්න ඔය විදියමයි, ඒ ධර්මරාජ වූ අපගේ ශාස්තෘන් වහන්සේගේ පාරිභෝගික භාණ්ඩ අදටත් දකින්නට ලැබේ. ඒ පාරිභෝගික භාණ්ඩ නම් සතර ඍද්ධිපාදය, ඒ පාරිභෝගික භාණ්ඩ නම් සතර සම්‍යක්ප්‍රධානයෝය. ඒ පාරිභෝගික භාණ්ඩ නම් පංචඉන්ද්‍රියෝය. පංච බලයෝය, සතර සතිපට්ඨානයෝය. ඒ පාරිභෝගික භාණ්ඩ නම් සප්ත බොජ්ඣංග ධර්මයෝය. ඒ පාරිභෝගික භාණ්ඩ නම් ආර්ය අෂ්ටාංගික මාර්ගයයි. මේවා දකින්න ලැබෙනවා. මේවා දකින්න ලැබෙද්දි අපි මේ නිෂ්ටාවකට පත්වෙනවා. ශාස්තෘන් වහන්සේ වැඩහිටියා. එතකොට මේ නිෂ්ටාව තුල පිහිටන්න පුලුවන් වෙන්නෙ රහතන් වහන්සේට. එතකොට රහතන් වහන්සේ තමයි මේ උතුම් ගුණ තමන් වහන්සේගේ ජීවිතය තුළ උපදවාගන්නෙ. ඒ රහතන් වහන්සේ උපදවාගන්න ගුණ අතරේ බොජ්ඣංග ධර්ම හත කියලා කියන්නෙ මාණික්‍ය හතක්. ආර්ය අෂ්ටාංගික මාර්ගය තුළ සීල, සමාධි, ප්‍රඥා කියන ශික්ෂාවේ උන්වහන්සේලා හික්මෙනවා. භයභේර හැම එකක්ම ප්‍රහීණ කරපු උන්වහන්සේලා නිදහස් සිතින් සැරිසරා වඩිනවා. උන්වහන්සේලාට සැනසීම අහිමි වෙන්න දෙයක් මේ ලෝකෙ නෑ. උන්වහන්සේලා නිදහස්. රහතන් වහන්සේලා මේ ලෝකයේ වැඩහිටියේ ලෝකානුකම්පාවෙන්. මොකද රහතන් වහන්සේ නමක් දැක හිත

පහදවාගත්තත් ගොඩාක් පින් රැස් වෙනවා. රහතන් වහන්සේලා ගැන අසා හිත පහදවාගත්තත් ගොඩාක් පින් රැස් වෙනවා. රහතන් වහන්සේ නමකට දානෙ චුට්ටක් පූජා කරගත්තොත් රහතන් වහන්සේ නමකට වැන්දොත් ගොඩාක් පින් සිද්ධවෙනවා. අනිත් අයට පින් පුරාගන්න අවකාශ තියෙන නිසා, රහතන් වහන්සේලා දයානුකම්පා සහිත සිතින් මේ ලෝකයේ නිදහසේ වැඩහිටියා. දසහංගේහි සම්පන්නා මහානාගා සමාහිතා ඒතේකොසෙට්ඨා ලෝකස්මිං තණ්හා තේසං න විජ්ජති. දසහංගේහි සම්පන්නා - රහතන් වහන්සේලා ගැන කියනකොට රහත් තෙරණිවරුගැන කියනකොට ඒ අර්හත් උතුමන් ගැන කතා කරනකොට අපි කියන්නෙ දසඅංගේහි සම්පන්නා, උන් වහන්සේලා අංග දහයකින් සමන්විතයි. මොනවද ඒ අංග දහය? සම්මා දිට්ඨියෙන් සමන්විතයි. සම්මා සංකල්පයෙන් සමන්විතයි. සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව කියන උතුම් අංගයන්ගෙන් සමන්විතයි. සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි කියන උතුම් අංගයන්ගෙන් සමන්විතයි. සම්මා ඤාණ, සම්මා විමුක්තිය කියන අංක දෙකෙනුත් සමන්විතයි. මේ තමයි රහතන් වහන්සේට තියෙන අංග දහය. උන්වහන්සේලා ගැන කියන්න තියෙන්නෙ  මහා හස්ථි රාජයො වාගේ. මනාකොට දමනය වෙච්චි හස්ථි රාජයො වගේ. මැනැවින් හික්මුණු හස්ථීන් වගේ, සමාහිත සිත් ඇතිවයි උන්වහන්සේලා වැඩ ඉන්නෙ. ඒ හිත කැළඹිලා නෑ, අතිශයින්ම සැනසිල්ලේ සුවසේ සමාහිත සිතකින් යම් පිරිසක් මේ ලෝකෙ වැඩහිටියා නම් ඒ රහතන් වහන්සේලාය. උන්වහන්සේලා තමයි ලෝකයේ ශ්‍රේෂ්ට. උන්වහන්සේලා තුළ දුක් පීඩා කරදර සදනා තෘෂ්ණාවක් දැකගන්නට නොලැබේ. අසේඛ ඤාණං උප්පන්නං අන්තිමෝ යං සමුස්සයො යෝසාරො බ්‍රහ්මචරියස්ස තස්මිං අපර පච්චයා - අසේක හෙවත් අර්හත් ඤාණය උපදවාගෙන ඉන්නෙ.  රහතන් වහන්සේ ගැන කියනකොට පින්වතුනේ අපි කියනවා අසේක කියලා. මේ බුද්ධ ශාසනයේ සේක ශ්‍රාවකයා සහ අසේක ශ්‍රාවකයා කියලා ශ්‍රාවකයො කොටස් දෙකකට බෙදන්න පුලුවන්. සේක කියලා කියන්නෙ හික්මෙන. අසේක කියන්නෙ හික්මුන. අසේක කියන්නෙ හික්මුණ රහතන් වහන්සේලා. උන්වහන්සේලා හික්මිලා අවසන්. හික්මී අවසන් නිසා රහතන් වහන්සේලා අර්හත්වයට පත්වුනාට පස්සේ උදාන වාක්‍යය ප්‍රකාශ කරනකොට එහි තියෙනවා කීණා ජාති - ඉපදීම ක්ෂය වී ගියේය. වෝසිතං බ්‍රහ්ම චරියං - උතුම් බඹසර වාසය නිමාකරන ලද්දේය. කතං කරණීයං - නිවන පිණිස යමක් කළ යුත්තේ ද ඒ සියල්ල කරන ලද්දේය. නා පරං ඉත්තත්ථායාති අබ්බඤ්ඤාසිං -

තවත් මා හට නිවන පිණිස, අවබෝධය පිණිස කළයුතු යමක් නැත. එහි ප්‍රත්‍යක්ෂ වූ ඥාණයකට උන්වහන්සේලා පත්වෙනවා, අසේක - හික්මී අවසන්. රහතන් වහන්සේට තමයි පින්වතුනේ අසේක කියන්නෙ. මේ ධර්ම මාර්ගයේ සීල, සමාධි, ප්‍රඥා පුරුදු කරන සියලු දෙනා සේක. මාර්ගඵල ලාභීනුත් දැන් සද්ධානුසාරී, ධම්මානුසාරී කියන්නේත් සේක. සෝවාන් වුනත් සේක. සකදාගාමී මාර්ගයේ හික්මෙන, සකදාගාමී, අනාගාමී මාර්ගයේ හික්මෙන, අනාගාමී, අර්හත් මාර්ගයේ හික්මෙන කියන මේ සියලු දෙනාට අපි කියන්නෙ සේක ශ්‍රාවකයො. අන්තිමෝයං සමුස්සයො - උන්වහන්සේලා දරාගෙන ඉන්නෙ අන්තිම සිරුර. මේ ශරීරය අත්හරිනකොට නොපිහිටි විඤ්ඤාණයෙන් පිරිනිවන් පානවා, යළි උපතක් කරා යන්නෙ නෑ. යළි සංසාරෙට උරුමක්කාරයෙක් බවට පත්වෙන්නේ නෑ. යළි මේ සසරේ සොහොන පුරවන කෙනෙක් බවට පත්වෙන්නේ නෑ. මේ සසර ගමනේ ඇටගොඩවල් ගොඩගහන කෙනෙක් බවට පත්වෙන්නේ නෑ. මේ දීර්ඝ සංසාරික ගමනේ ඇඬූ කඳුළු නවත්වනවා. මේ දීර්ඝ සසර ගමනේ මහා සාගරයටත් වඩා හෙලූ රුධිර ගංගාව නවත්වනවා, රහතන් වහන්සේ. අන්තිම සිරුරක් දරාගෙන අවසාන සිරුර ඇතිව වැඩහින්නවා. ඒ නිසයි පින්වතුනි උන්වහන්සේලා පිරිනිවන් පෑවට පස්සෙ උන්වහන්සේලාගේ ගුණකද හඳුනන අය ධාතු සෑයක් හද හද වන්දනා කරන්නෙ. ඒ උන්වහන්සේලා දරාගෙන හිටපු අවසන් සිරුර. උන්වහන්සේලා දුක් නැසුවේ ඒ සිරුර දරාගෙන. ඒ සිරුරට වන්දනා කලොත්, ඒ සිරුරට නෙවෙයි උන්වහන්සේලා පරිහරණය කරපු දේකට වුනත් වන්දනා කලොත් ඒක මේ සංසාර ගමනේ ගුටිකකා යන අසරණ සත්වයෝ විදියට අපිට බොහෝ කල් යහපත පිණිස හේතුවෙන එකක්. ඒවසාරො බ්‍රහ්මචරියස්ස - මේ නිවන් මාර්ගයේ ගමන් කරන යම් උතුම් සාරයක් ඇත්ද, ඒ අමෘත නිවනට උන්වහන්සේලා පත්වුනා. තස්මිං අපර පච්චයා - ඉතින් උන්වහන්සේලා බොහෝම සුවසේ අන්‍ය උපකාර රහිතව වාසය කරනවා. විදාසුන විකම්පන්ති විප්පමුත්තා පුනබ්බවා දන්තභූමිං අනුප්පත්තා තේලෝකෙ විජිතාවිනො - සෙය්‍යමාන ආදී මානයන්ට කම්පනය වෙන්නේ නෑ. රහතන් වහන්සේලා තුළ කම්පන නෑ. යම් ඒ මාන නිසා කම්පාවට පත්වෙනවාද ඒ කම්පා කිසිවක් රහතුන්ගේ ජීවිතේ නෑ. ඒ කම්පන හටගන්න හේතුවෙනවා හීනමානය. හීනමානය කියලා කියන්නෙ අහවල්ලු නම් මෙහෙමයි මෙහෙමයි, අයියෝ අපිට බැනෙ, මට නෑනෙ. හීනමානය. කම්පනය. ඊළඟට තියෙනවා සෙය්‍යමානය. මේ අනිත් හැමෝටම වඩා තමන් උසස් යැයි හිතාගන්න එක. ඊළඟට සදිසමානය,

සම කර කර හිතන එක. මේ හැම එකකින්ම තියෙන්නේ කම්පන. රහතන් වහන්සේගේ ජීවිතේ කම්පන කිසිවක් නෑ. ඔවුහු පුනර්භවයෙන් මනාකොට නිදහස් වෙලා ඉන්නෙ. යළි උපතක් නෑ. අර්හත්වයට කියනවා දන්තභූමි කියලා. ඒ දන්තභූමිය කියන අර්හත්වයට උන්වහන්සේලා පැමිණුනා. උන්වහන්සේලා තමයි ලෝකයේ මරසෙනඟ පරදවලා ජය අරගෙන ඉන්නෙ. ඇත්තටම මේ ලෝකෙ යමෙකුට දිනුවා කියනවා නම් ඒ දිනුවා කියලා කියන්නෙ රහතන් වහන්සේටයි. යො සහස්සං සහස්සේන සංඝාමෙ මානුසේ ජිනෙ - යම්කිසි මනුස්සයෙක් යුද්ධ සංග්‍රාම දාහක් ජයගන්නවා. බාහිර යුද්ධ දාහක් එයා ජයගන්නවා. ඒවා ඇත් යුද්ධ වෙන්න පුලුවන්. අස් යුද්ධ වෙන්න පුලුවන්. රථ යුද්ධ වෙන්න පුලුවන්, පාබල යුද්ධ වෙන්න පුලුවන්. ධන යුද්ධ වෙන්න පුලුවන්, ඕනම යුද්ධයක්. එක්කො වාද විවාද කරලා වෙන්න පුලුවන්. ඒ කෙනා ඒවගෙන් ජයගන්නවා. ඒවා දාහක් දින්නා කියලා හිතමු. ඒකං ච ජෙයයා තානං - යම් කෙනෙක් තමාව ජයගන්නවා නම්, සවේසංගාය යුත්තමො - ඇත්තටම උතුම් යුද්ධය කියලා කියන්නෙ ඒකයි. බුදුරජාණන් වහන්සේගේ ධර්මය තියෙන්නෙ තමාව ජයගන්න කැමැති අයටයි. ඒ නිසා ධර්මයට කියනවා ඕපනයික. තමා තුළට පමුණුවාගත යුත්තේය. රහතන් වහන්සේලා කියලා කියන්නෙ පින්වතුනේ හිත පහදවගන්න, ධර්මය තමා තුළට ගලපාගන්න දක්ෂ වෙච්චි පිරිස. බොහෝ දෙනෙක් ධර්මය ඉගෙන ගත්තට පස්සෙ ඒ ධර්මය ඉගෙන ගෙන ඇති කරගන්න දහම් දැනුමෙන් තමන්ට ගැලපිල්ලක් නෙවෙයි කරන්නෙ. ඒක බාහිරට. අහවල්ලු කොහොමද, අහවලා කොහොමද, ඒ ඇයන්ට කොහොමද, ඒක තමයි එයාගෙ ඔළුවේ වැඩ කරන්නෙ. තමන්ගේ ජීවිතේ හදාගන්න නේද මේ ධර්මය කියන තැනට හිත හසුරුවගන්න තරම් ඥාණ ශක්තියක් සාමාන්‍ය කෙනෙකුට පිහිටන් නෑ, සාමාන්‍ය කෙනෙකුට එහෙම පිහිටන් නෑ. රහතන් වහන්සේලා ගැන අපි හිතපහදවාගන්න ඕන. උන්වහන්සේලා දුෂ්කර තැන්වලත්, අතිශයින්ම දුෂ්කර තැන්වලත් තමන්ගේ අර්බුදය අඳුනගත්තානෙ. ඒ උදෙසා යම් සුලු උපකාරයක් කලත් ඒ උපකාරය ගන්න දක්ෂ වුනා. එක අවස්ථාවක් තියෙනවා වනාන්තරයේ භික්ෂූන් භාවනා කරනවා. ඒ භාවනා කරමින් ඉද්දි ඒ වනාන්තරයේ හිටියා රුදුරු දිවියෙක්. මේ දිවියා මේ ස්වාමීන් වහන්සේලාගේ ආරණ්‍යයට පැමිණිලා කෙළවරේම කුටියේ හිටපු ස්වාමීන් වහන්සේව ඩැහැගත්තා. මේ ස්වාමීන් වහන්සේලා සේක භික්ෂූන්. නිවන් මගේ හික්මෙමින් හිටපු අය. ධර්මය අවබෝධ කරලා තිබුන් නෑ. අනේ අර ස්වාමීන් වහන්සේව ඩැහැගත්තා. ඩැහැගන්නකොට ඉතින් මේ

ස්වාමීන් වහන්සේ කෑගැහුවා.අනිත් ස්වාමීන් වහන්සේලා එකතු වුනා. එකතුවෙලා අනිත් ස්වාමීන් වහන්සේලා මේ ව්‍යාඝ්‍රයාව පන්නන්න නොයෙක් නොයෙක් දේවල් කලා. උං භයවුනේ නෑ. උං ටික ටික පස්සට ගියේ අර ස්වාමීන් වහන්සේවත් ඇදගෙනමයි. ඇදගෙන ඇදගෙන ගියා. අවසානයේ ඒ ස්වාමීන් වහන්සේව රුදුරු වනසතා අනිත් ස්වාමීන් වහන්සේලාට ළංවෙන්න බැරි තැනකට බෑවුම් සහිත තැනකට ඇදගෙන අරන් ගියා. එතනට ස්වාමීන් වහන්සේලාට පහසුවෙන් ළංවෙන්න බෑ. එතකොට එතන හිටපු එක ස්වාමීන් වහන්සේ නමක් හඬනගලා කතා කරලා කිව්වා, ආයුෂ්මතුනි දැන් ඔබේ පිහිටට ඔබ විතරයි, අපි කාටවත් ළංවෙන්න පුලුවන් කමක් නෑ. ආයුෂ්මතුනි බුදුරජාණන් වහන්සේගේ ධර්මයම සිහි කරන්න. බුදුරජාණන් වහන්සේ වදාළා නොවේද මේ සංසාර ගමන බිහිසුණුයි කියා. ආයුෂ්මතුනි මේ සංසාර ගමනේ යන්න සිද්ධ වුනොත් ඔයිට වඩා ගොඩාක් බිහිසුණු අරමුණු වලට, ඔයිට වඩා ගොඩාක් බිහිසුණු දේවල් වලට අපිට මුහුණ දෙන්න සිද්ධ වෙයි. ඒ නිසා ආයුෂ්මතුනි අත්හරින්න. එහෙම කිව්වා. ඒක කියනකොට පින්වතුනි ගන්න දක්ෂ වුනානෙ. අදක්ෂයෙක් නම් අයියෝ මං මේ සතෙක්ගේ කටේ මැරෙද්දී මගෙත් එක්ක එකට හිටපු භික්ෂූන් මාව අතහරිනවානෙ. මේ භික්ෂූන්ට මං කොච්චර උදව් කරලා තියෙනවාද. මේ භික්ෂූන් සහෝදරයො වාගෙ හිටියට මාව අතහැරියානෙ. ඒ වගේ නොයෙක්  ඒවා අස්සෙ පටලැවෙන් නැද්ද. නොයෙක් ඒවා අස්සෙ පටලැවෙනවා. අර අවවාදය ගත්තා. ඒ අවවාදය අරගෙන කල්පනා කලා, ඇත්ත. ශාස්තෘන් වහන්සේ වදාළේ මේ සංසාරික ගමනේ හෙළූ රුධිරය සතර මහා සමුද්‍රයට වඩා වැඩියි කියලා. දැනුත් මගේ ශරීරය ලේ ගලමින් තියෙනවා, මං මේ ලේ නවත්වන්න ඕන. මේ සංසාරික ගමනේ ලේ එකතු කර කර  ලේ සාගර හද හද යන එක මං නවත්වන්න ඕන. සත්තුන්ගේ කටේ, මාංශ භක්ෂක සත්තුන්ගේ කටේ කොච්චර මං මැරිලා ඇත්ද. දැන් නවත්වන්න, උන්වහන්සේ එහෙම අධිෂ්ටාන කලා. උන්වහන්සේ මේ වනසතෙකුගේ ග්‍රහණයට අසුවෙලා ඉද්දිත් ධර්ම මාර්ගය වේගයෙන් දියුණු කලානෙ. හරිම පුදුම සහගතයි පින්වතුනි, ධර්ම මාර්ගය දියුණු කලා, යුද්ධ දාහක් ජයගත්තට මිනිහටත් බැරි යුද්ධෙ තමාව ජයගැනීම කියන එක, උන්වහන්සේ අර ව්‍යාඝයාගේ අර රුදුරු වන සතාගේ ග්‍රහණයට අසුවෙලා ඉද්දි කලා. ඒ පුවතේ අවසානෙට තියෙනවා ඒ සතා උන්වහන්සේගේ හදවත කඩලා ගන්න පෙර උන්වහන්සේ සියලු කෙලෙස් නසා අර්හත්වයට පත්වුනා. රහතන් වහන්සේ නමක් විදියට පිරිනිවන් පෑවෙ. ආශ්චර්‍යයියි මේ බුද්ධ ශාසනයේ අපිට

තියෙන පිළිසරණ, පින්වතුනි අපි මැරෙන විදිය අපිට කියන්න බෑ. අපි එක එක්කෙනාට පෞද්ගලිකව මරණය එන විදිය අපිට කියන්න බෑ. ගින්නකට අහුවෙලා මැරෙන්න පුලුවන්, වතුරේ ගිලිලා මැරෙන්න පුලුවන්, මහපාරෙ මැරෙන්න පුලුවන්. අන්තවාදීන්ට අහුවෙලා මැරෙන්න පුලුවන්. හදිසියේ පුපුරන බෝම්බෙකින් මැරෙන්න පුලුවන්. එහෙම නැත්නම් මහා වසංගත රෝගයක් හැදිලා මාස ගාණක් විඳවලා විඳවලා මැරෙන්න පුලුවන්. ලෙඩ ඇඳට වැටිලා අවුරුදු ගණන් ඉඳලා මැරිලා යන්න පුලුවන්. මැරෙන විදියක් අපිට කියන්න බෑ. මැරෙන ජීවිතයට පිළිසරණක් තියෙනවා ධර්මය තුළ. ධර්මය තුළ පිළිසරණක් තියෙනවා, ඒ පිළිසරණ අල්ලගත්තොත් ඒ පිළිසරණ අල්ලගත්ත කෙනාට තමන්ගේ ජීවිතේට යම් යහපතක් හදාගන්න මේ ජීවිතෙත් අවකාශ තියෙනවා. දැන් මේ රහතන් වහන්සේලා නම් ජීවිතේට පරිපූර්ණ අවකාශය, ජීවිතේ පරිපූර්ණ සැපයටම අවකාශය සලසාගත්තා. උන්වහන්සේලා මේ ජීවිතයේම තමන් වහන්සේලාගේ ජීවිත සම්පූර්ණයෙන්ම සුවපත් කරගත්තා. නිවුනා. ලෝකයේ මර සෙනඟ පරදවලා ජයගත්තෙ රහතන් වහන්සෙ. රහතන් වහන්සේගේ ජයග්‍රහණය දිහා බලාගෙන ඉන්නවා කියනවා දෙවිවරු. දෙවිවරු පින්වතුනි හරී සන්තෝෂයි කුලපුත්‍රයෝ පැවිදි වෙනවාට. මිනිස්සු නම් අකමැතියිනෙ. මිනිස්සු එක එක ප්‍රශ්නත් හදනවානෙ මේ සමාජය තුළ. තරුණයො පැවිදි වෙනවා කියලා. මිනිස්සු නෙවෙයි භික්ෂූනුත් හදන්නෙ. භික්ෂූනුත් හදනවානෙ ප්‍රශ්න මහණ වෙනවාට. දැන් කැම්පස් යන ළමයි මහණ වෙනවා උගතුන් නැතිවෙනවාද. ඒ වගේම භික්ෂූනුත් ඇතැම් ඔලමොට්ටල අදහස් තියාගෙන ඉන්නවානෙ. එතකොට දෙවිවරු දිහා බලපුවාම අපිට පේනවා, දෙවියෝ අතිශයින්ම සන්තෝෂයි පැවිද්දට. දෙවිවරු සන්තෝෂ වෙන කාරණා විදියට තියෙනවා දේශනාවෙ, මහාකාරුණික බුදුරජාණන් වහන්සේ දේශනා යම් කුල පුත්‍රයෙක් ගිහිගෙදර වාසය කරන ගමන් බුදුබණ අහලා පැවිදිවෙන්න හිතනවා. පැවිදිවෙන්න හිතද්දි දෙවිවරු අප්‍රමාණ ප්‍රීතියට පත්වෙනවා කියනවා. අන්න අර කුලපුත්‍රයා දුෂ්කර වූ යුද්ධය පිණිස හිතනවා. යම් දවසක ඒ කුල පුත්‍රයා ගෘහබන්ධනය අත්හැරලා පැවිදිවෙනවාද සිවුරු පොරවාගන්නා දවසේ දෙවියෝ ගොඩාක් සතුටු වෙනවා අන්න අර කුල පුත්‍රයා දුෂ්කර යුද්ධය සඳහා යුධ ඇඳුමින් සැරසුනා. යුදඇඳුම කියලා කිව්වෙ රහතුන් පෙරවූ ධජය. යුද්ධය දිනූ මුණිවරු පෙරවූ ධජය, සිවුරු දරාගැනීම. ඒ භික්ෂූන් වහන්සේ යම් දවසක අර්හත්වය පසක් කලොත් දෙවිවරු අප්‍රමාණ ප්‍රීතියට පත්වෙනවා කියනවා, සුර අසුර යුද්ධයක් දිනලාවත් දෙවිවරු එච්චර සතුටු

වෙන් නෑ කියනවා. දෙවියෝ එහෙම සන්තෝෂ වෙනවා. ජීවිතයක් යහපත කරා යනකොට දෙවියෝ එච්චර සන්තෝෂ වෙනාව. මොකද දෙවිවරු දන්නවා පින්වතුනි ජීවිතයේ හැබෑ යහපත මොකක්ද කියලා. ඊළඟට දෙවිවරු යහපත කරා යනකෙනාට ඊර්ෂ්‍යා කරන්නෙ නෑ, දෙවිවරු යහපත කරා යන්න දෙනවා. ඇත්තටම දෙවියන්ගේ උපකාර, දෙවියෝ කරපු මහා බලවත් උපකාර නිසානෙ අපගේ ශාස්තෘන් වහන්සේ පවා ගෘහ බන්ධනය කඩාගෙන අභිනිෂ්ක්‍රමණය සිද්ධ වුනේ. දුෂ්කරක්‍රියා කරන අවධියේ වුනත් බෝසතාණන් වහන්සේට උදව් කලේ දෙවිවරු. දෙවියන්ගේ උපකාර. එතකොට යුද්ධය දිනූ රහතන් වහන්සේ යුද ජයග්‍රහණය කරනකොට දෙවිවරු අතශයින් සතුටු වෙනවා කියනවා. එක අවස්ථාවක් තියෙනවා, දෙදෙව්ලෝකාධිපති සක්දෙවිඳු දිව්‍ය ප්‍රාසාදයෙන් එළියට පැමිණිලා සිව්දිසාවට වන්දනා කලා හොඳට දණගහලා. එතකොට මාතලී අහනවා ළඟ ඉදලා, දේවේන්ද්‍රය කාටද ඔය වඳින්නෙ. මාතලී මේ ලෝකෙ ඉන්නවා හිත සම්පූර්ණයෙන් දියුණු කරගත්ත කෙලෙස් නැසූ, කෙලෙස් පීඩා කිසිවක් නැති, සසර දුක් දුරු කරපු රහතුන්. මේ වන්දනාව ඒ සැබෑ රහතුන්ටයි. හැබෑම රහතන් වහන්සේලාට, සැබෑම රහත් තෙරණින් වහන්සේලාට දෙවියොත් වන්දනා කරනවා. උද්ධං තිරියං අපාචීනං නන්දි තේසං න විජ්ජති න දන්තිතේ සීහනාදං බුද්ධාලෝකෙ අනුතුතරා ති - උඩු අතට බැලුවත්, හරස් අතට බැලුවත්, යට අතට බැලුවත් ඒ කිසි තැනක තණ්හාවක් උන්වහන්සේ තුළ නැත්තේය. තෘෂ්ණා නැත්තේය. තණ්හාවක් නැති, කැළඹිල්ලක් නැති සන්සිඳුණු ජීවිත ඇති රහතුන් උන්වහන්සේලා සිහනද පතුරන්නෙ, බුද්ධාලෝකෙ අනුත්තරාති - බුදුරජාණන් වහන්සේලාමයි මේ ලෝකයේ උත්තරීතර කියලයි රහතන් වහන්සේලා සිංහනාද කරන්නෙ. හැබෑම රහතන් වහන්සේ නමක්, හැබෑම රහත් තරණින් වහන්සේනමක් අපිට පහසුවෙන්ම අඳුනගන්න තියෙන්නෙ එතනින්. උන්වහන්සේලාගේ සිංහනාදයෙන්. උන්වහන්සෙලාගේ සිංහනාදයේ තියෙන්නේ ශාස්තෘන් වහන්සේ ගැනමයි. තමන් ගැන මොකුත් නෑ. උන්වහන්සේලාගේ සිංහ නාදය තියෙන්නෙ බුදුරජාණන් වහන්සේ ගැන, ධර්මය ගැන, සංඝරත්නය ගැන, කල්‍යාණමිත්‍රයො ගැන, සත්පුරුෂ ඇසුර ගැන. මේ ථෙරථෙරී ගාථා, මේ වැඩසටහන් මාලාවට සම්බන්ධ වෙලා ඔබ කලක් තිස්සේ ශ්‍රවණය කලා නම්, එහෙම නැත්නම් ථෙරථෙරී ගාථා පොත් වහන්සේ අපේ ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ විසින් බොහෝ කලකට පෙර පරිවර්තනය කරපු මේ පොත් වහන්සේ ඔබ කියෙව්වා නම් ඔබට දකින්න ලැබෙන්න ඇති ඕන තරම් මා මේ කියන දේ. උන්වහන්සේලා

බුදුරජාණන් වහන්සේවම වර්ණනා කරනවා. ධර්මයම වර්ණනා කරනවා. සඟරුවනම වර්ණනා කරනවා, තෙරුවන් සරණම වර්ණනා කරනවා. තෙරුවන් සරණට පැමිණිලා උපදවාගත යුතු උතුම් ගුණ වර්ණනා කරනවා. සත්තිස් බෝධිපාක්ෂික ධර්ම වර්ණනා කරනවා. කල්‍යාණමිත්‍ර ඇසුර වර්ණනා කරනවා. සත්පුරුෂ ඇසුර වර්ණනා කරනවා. උන්වහන්සේලා අනුකම්පාවෙන් කලේ ඒ දේ. නොපමාව ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ගමන් කරන්න කියලා අවවාද කරනවා. උන්වහන්සේලා අනුකම්පාවෙන් කලේ ඒ දේ. මේ සීල සමාධි ප්‍රඥා වරද්දගන්න එපා කියලා අවවාද කරනවා. උන්වහන්සේලා අනුකම්පාවෙන් අපිට කලේ ඒ දේ. ඒ නිසා පින්වතුනි අපි මේ දේශනා මාලාව ආරම්භ කලේම ගොඩාක් හොර රහතුන්, හොරමාර්ග ඵල ලාභීන් බිහි වෙලා මේ අහිංසක මනුස්සයාව මුලාවේ දාන නිසා. සැබෑම රහතුන්, සැබෑම රහත් තෙරණිවරුන් හරියට අඳුනාගැනීමට උපකාර පිං පිණිස. ඉතින් දේශනා ගණනාවක් සිද්ධ කරලා අද මේ අවසාන දේශනාව. මේ දේශනාවෙන් අප රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අපි හැමදෙනාට එක ලෙස අනුමෝදන් වෙලා අපට සුවසේ දහම් මග දියුණුකරගෙන සුවසේම පින් පුරාගෙන රහතන් වහන්සේලා සැනසුන, රහත් තෙරණීවරු සැනසුන අමෘත නිවනේ සැනසීම පිණිසම හේතු වාසනා වෙත්වා. සාදු සාදු සාදු!!! ලෝකයට පහළ වූ සියලු සැබෑම රහතන් වහන්සේලාටත් ලෝකයට පහළ වූ සියලු සැබෑම රහත් මුණිවරියන් වහන්සේලාටත් නමස්කාර වේවා, සාදු සාදු සාදු!!!

අප විසින් රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අනුමෝදන් කරමු සක්දෙවිඳුන් සතරවරම් දෙවිවරුන් ප්‍රධාන සියලු දෙවියෝ සතුටින් පින් අනුමෝදන් වෙත්වා අපගේ ඉෂ්ටකාමී හිතකාමී සියලු දෙවිවරුන් පින් අනුමෝදන් වෙත්වා. දෙවියෝ පින් අනුමෝදන්ව දිව්‍ය සැපයෙන්, දිව්‍ය ආශ්චර්‍ය්‍යයෙන් වැඩෙත්වා. ඒ සියලු දෙවියන්ගේ නිරන්තර රැකවරණ පින්වත් හැමදෙනාට දෙවියෝ සළසත්වා. දෙවියෝ ද සසර දුකින් අතමිදේවා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ උදාරතර පුණ්‍ය ධර්මයන් ගුරු දේවෝත්තම, කල්‍යාණමිත්‍ර පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. ගුරුදේවයන් වහන්සේට නිදුක් නිරෝගී සුවයම දිර්ඝායුෂ සම්පත්තියම සැලසෙත්වා. මේ ගෞතම ශාසනය තුළම උතුම් වූ චතුරාර්ය සත්‍යය ධර්මය පරිපූර්ණ වශයෙන්ම අවබෝධ කරගන්න වාසනාව ලැබෙත්වා. සාදු සාදු සාදු!!! රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අපිට මේ උතුම් වැඩසටහන් මාලාව සිද්ධ කරගෙන යාමේදී නොයෙක් අයුරින් ආශිර්වාද කල, සෙත් ප්‍රාර්ථනා සිදු කරපු, අවවාද අනුශාසනා සිදු කරපු

මාගේ සහෝදර වැඩිහිටි ස්වාමීන් වහන්සේලා ප්‍රධාන පූජනීය මහාසංඝරත්නයට මේ සියලූම පුණ්‍යධර්මයන් අනුමෝදන් වෙලා පිනවතුන් වහන්සේලා නිදුක් වෙත්වා, නිරෝග වෙත්වා, දීර්ඝායුෂ ලබත්වා. මේ ගෞතම ශාසනය තුළම උතුම්වූ චතුරාර්ය සත්‍යය ධර්මය සුවසේම අවබෝධ කරන්නට ලැබෙත්වා. සාදු සාදු සාදු!!! ඒ වගේම පින්වතුනි මේ දේශනා මාලාව සිදු කරනකොට අපිට හරී උපකාර වුනා ගයාන් චානුක විදානපතිරණ මහත්මා විසින් රහතන් වහන්සේලා ගැනත්, රහත් තෙරණින් වහන්සේලා ගැනත් සම්පාදනය කරලා තිබුනු ඒ වටිනා පොත් පෙළ. සූත්‍ර පිටකය, විනය පිටකය පුරා විසිරිලා තියෙන උතුම් ධර්ම කාරණා, ඊළඟට අටුවා පොත් වහන්සේලා තුළ අන්තර්ගත කාරණා එක තැනකට අරගෙන රහතන් වහන්සේලා ගැන රහත් තෙරණින් වහන්සේලා ගැන සම්පාදනය කරලා තිබුනු පොත් වලින් අපිට හරි පහසුවක් වුනා මේ වැඩසටහන් මාලාව සිද්ධ කරගෙන යන්න. ඉතින් ඒ නිසා අපි විශේෂයෙන් සිහිපත් කරලා පින් අනුමෝදන් කරනවා ගයාන් චානුක විදානපතිරණ මහත්මාට, මේ සියලු පුණ්‍ය ධර්මයන්ගේ ආශිර්වාදයෙන් නිදුක් නිරෝගී සුව ශාන්තිය දීර්ඝායුෂම සැලසේවා. තවදුරටත් ලෝක ශාසනයේ අභිවෘද්ධිය පිණිස කටයුතු කිරීම උදෙසා සියළු ආකාරයෙන් ශක්තිය ධෛර්යය වාසනාව ලැබෙත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. ආශිර්වාද කරනවා. රැස් කලා වූ සියලූම පුණ්‍ය ධර්මයන් මීට වසර 9කට පෙර මියපරලොව යන්න යෙදුනු පින්වත් ගුණපාල අරඹගේ මහත්මාට පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම ඊබට් රාජපක්ෂ මහත්මාටත්, එස්.එල්.ඒ. පතිරණ මහත්මාටත්, ඒ වගේම පවුලේ සියලුදෙනාගේ නමින් මියගිය දෙමව්පියන් සහෝදර සහෝදරියන් ඇතුළු නමින් මියගියාවූ සියලු ඥාතීන්ට පින් අනුමෝදන්ව ඥාතීන්ගේ පරලොව ජීවිතය සැපයටම පත්වෙත්වා. අපගේ ඥාතීන්ට මේ දුක් සහිත සසර ගමනින් ඉතා ඉක්මණින්ම නිදහස් වෙන්න ලැබෙත්වා කියන ප්‍රාර්ථනාවෙන් පින් අනුමෝදනාව සිදු කරන්න. රැස් කලා වූ උදාරතර පුණ්‍ය ධර්මයන් සිතුමි, සිනලි, සෙව්මි සහ දිනුද යන මුණුබුරු මිණිබිරියන්ට අනුමෝදන් වෙත්වා. ඒ වගේම පවුලේ සෑම සියලුදෙනාටත් මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. අද ධර්ම දානය සිදු කරනු ලබන්නේ මහරගම පදිංචි පින්වත් කරුණා අරඹගේ මැණියන් විසින්. ඒ මැණියන්ටත් පවුලේ සෑම සියලු දෙනාටත් මේ සියලු පින් අනුමෝදන් වෙලා නිදුක් නිරෝග සුව ශාන්තිය සැලසේවා. සියලු කරදර රෝග පීඩා දුරු වෙලා සුවසේ දහම් මඟ දියුණු කරගන්න අවකාශ සැලසෙත්වා. කල්‍යාණමිත්‍ර ඇසුරේ සුවසේ දහම් මග දියුණු

කරගෙන මේ ලැබූ ක්ෂණ සම්පත්තියෙන් උපරිම ඵල ප්‍රයෝජන ලබාගන්න චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්න අද ධර්ම දානය සිදු කලා වූ ඒ පින්වතුන්ලාට වාසනාව ලැබෙත්වා කියලා අපි පින් අනුමෝදන් කරනවා. ඒ වගේම විශේෂයෙන් රැස් කලා වූ සියලුම පුණ්‍ය ධර්මයන් මේ වැඩසටහන් මාලාව පුරාවටම දායකත්වයන් සැපයූ ඒ පින්වතුන්ලා නිසා තමයි වැඩසටහන් මාලාව අඛණ්ඩව අපිට සුවසේ සිදු කරගැනීමට අවස්ථාව උදා වුනේ. ඒ සියලු දෙනාට මේ සියලු පින් අනුමෝදන්ව ගෞතම ශාසනයේ ධර්මාවබෝධ කරන්න වාසනාව ලැබෙත්වා. ඒ වගේම රැස් කලා වූ සියලූ පුණ්‍ය ධර්මයන් අපි විශේෂයෙන් සිහි කරලා අනුමෝදන් කල යුතුයි ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්යමණ්ඩලයේ පින්වත් හැමදෙනාට, ඒ පින්වතුන්ලා තමයි පින්වතුනේ ඔබට මේ සුන්දර බණ පදය අරගෙන එද්දි ඒ බණ පදයේ ඔබට නැරඹීම පිණිස ඉතාම ආකර්ශණීය පසුබිම නිර්මාණය කරලා ඒ වගේම කැමරා කෝණයන් මේ හැම එකකින්ම ඔබට මේ ධර්මයේ සුවය අත්විඳින්න අවකාශ සලසන්නෙ මේ පිරිස කැප වෙලා, ඒ නිසා ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ සෑම සියලු දෙනාට මේ සියලූම පුණ්‍ය ධර්මයෝ එකලෙසම අනුමෝදන් වෙත්වා. හැමදෙනාටම පින් අනුමෝදන්ව මේ ගෞතම ශාසනය තුළ ධර්මාවබෝධයෙන් සැනසීම පිණිස මේ සියලු පින් හේතුවාසනා වෙත්වා. හැමදෙනාටම තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=G9vpK-4A3sQ